# මිනිසත් බව ලැබීම උතුම් කරුණු අතරින් ද ඉතා උතුම්ය
# "පරම දුල්ලභෝ මනුසසත්ත පටිලාභෝ"

මේ පොත කියවන ඔබත්, මමත් අප සියලු දෙනාමත් අද මිනිසුන් ලෙස උපත ලබා ඇත. මිනිසෙකු ලෙස උපතක් ලැබීමේ වටිනාකම, එහි උතුම් බව තේරුම් ගත හැක්කේ ද මනසින් මෙනෙහි කර මැන බලා සසඳා දැනගත හැක්කේ ද මිනිසෙකුට ම පමණි. විශ්වයෙහි ජීවත්වන මිනිසුන් ප්‍රමාණය මෙන් කෝටි ප්‍රකෝටි ගුණයකින් වැඩි අනෙකුත් සත්ත්වයින්, භූතයින්, ප්‍රාණීන් දියුණු කර ගත හැකි තත්ත්වයේ මනසක් තම උපතේදී නොලබයි. අද අප දකින, අපට පෙනෙන අනන්ත අප්‍රමාණ තිරිසන් සතුන් යැයි අප හඳුන්වන සියලුම සත්ත්ව කොට්ඨාස වලට ලැබී ඇත්තේ ඉවක් පමණි. එය ඥාණ විශේෂයකි. අපට නොපෙනෙන සියලුම දේව, බ්‍රහ්ම, අමනුස්ස කොට්ඨාස වලටද යම්කිසි ඉවක්, ඥාණ සම්භාරයක් ලැබී තිබුණත් මිනිසාට මෙන් මනසක් ලැබී නැත. මනස යනු සකස් කර, පුහුණු කර, පිරිසිදු කර, දියුණු කර ගත හැකි ඥාණ විශේෂයකි. මනුස්ස යනු මන උස්සා ගත හැකි, මනස උසස් බවට පත්කරගත හැකි ශක්තියයි.

රංකුඹලා, වඩුකුරුල්ලා වැනි ගෙවල් සදාගෙන ජීවත්වන සතුන් පරම්පරා ගණනක් පුරාම තම ගේ සාදාගන්නේ එකම සැලැස්මකට අනුවය. ඒ ඉවෙන් ලැබූ දැනුම අනුවය. නමුත් මිනිසා මනස මෙහෙයවා නිරතුරු තම ගේ සාදාගන්නා සැලැස්ම මනසින් කල්පනා කර වෙනස් කරගනී. ඒ නිසා මනස යනු ඉව හෝ ඥාණය නොවන බව පැහැදිළිය.

මෙහිදී ඉතාමත් වැදගත් දෙයක් පැහැදිළි කරගත යුතුයි. අපට පෙනෙන නොපෙනෙන සියලුම සත්ත්වයින්, දෙවියන්, අමනුස්සයින් ආදී සියල්ලන්ම අනන්ත අප්‍රමාණ පෙර අතීත අත්බැව්වල මිනිසුන් ලෙස උපත ලබා කල් ගෙවා ඇතත්, තම මනස දියුණු කර නොගැනීමේ ඵල විපාක අද අත්විඳ ගන්නට ලැබී ඇත. මිනිසත් බව කෙළෙසීමේ ඵල විපාක මේ ආකාරය.

මිනිසෙකු ලෙසින් උපත ලබා බුදු බවට පත් වූ බුදුපියාණන්වහන්සේ තම මනස දියුණු කර ගැනීමෙන්ම බුද්ධිය, ප්‍රඥාව උපරිම මට්ටමට දියුණු කරගත් නිසාම බුද්ධ තත්ත්වයට පත්වූ සේක. සියලුම අරහතුන්වහන්සේලාද මිනිසුන් ලෙසම ඉපදී මනස දියුණු කරගෙන බුද්ධ තත්ත්වයට පත් වූ සේක. ලොව බිහිවුණු සියලුම ආගම්වල ආගමික නායකයින්ද මිනිසුන් ලෙස උපත ලබා යම් ආකාරයකින් මනස දියුණු කරගත් නිසාම ඔවුහු ආගමික නායකයින් බවට පත් වූහ.

මිනිසෙකු ලෙස උපත ලබන සෑම කෙනෙකුම ආයු, සැප, බල, වර්ණ, ප්‍රඥා යන සම්පත් ලැබ උපන් නිසා තම මනස දියුණුකර, සකස්කර, පිරිසිදුකර බුද්ධිය වඩා ගැනීමටත්, බුද්ධ තත්ත්වයට පත්වීමටත් අවශ්‍ය උතුම් ශක්තියත්, අවස්ථාවත් උරුමයෙන්ම ලබා ගෙන ඇත. මේ බව තම තමන්ම තමා තුළින්ම අවබෝධ කරගත හොත්, සොයා අසා දැන ගෙන ක්‍රියා කළ හොත් පමණක් මේ උතුම් අවස්ථාවෙන් නිසි ඵල නෙළා ගත හැකිය. කාගේවත් වරමකින්, පිහිටකින්, උපකාරයෙන් මෙය ලබාගත නොහැකිය. දෙවියෙකුට,

බුදුපියාණන්ට, ආගමික නායකයෙකුට හෝ විශ්වකර්මයෙකුට වගකීම පවරා තමන්ට මින් නිදහස් විය නොහැකිය.

මිනිසෙකු ලෙස උපත ලැබීම පරම දුර්ලභ අවස්ථාවක් වන අතර මේ ලැබූ උපත නිසාම තවත් පරම දුර්ලභ අවස්ථා හිමිකර ගත හැකි බව බුදුපියාණන්වහන්සේ බුද්ධ දේශණාවෙන් පෙන්වා දුන් සේක. බුද්ධෝත්පාද කාලයක මිනිසෙකු ලෙස උපත ලැබීම අති දුර්ලභ දෙයකි. පරම පවිත්‍ර සිරි සද්ධර්මය ශ්‍රවණය කරන්නට ලැබීම මිනිසෙකුට ලැබෙන අති දුර්ලභ අවස්ථාවකි. "ඛණ සම්පත්තිය" ලැබීමට අවස්ථාව හිමිවීම මිනිසෙකුට ලැබෙන දුර්ලභ දෙයකි. කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය සඳහා අවස්ථාව ලැබීම මිනිසෙකු ලබන තවත් දුර්ලභ දෙයකි. බුද්ධ ශ්‍රාවකයෙකු (පබ්බජ්ජා) වීමට ලැබීම මිනිසෙකු සංසාර ගමනේදී ලබන උතුම්ම තත්ත්වයකි. මනසක් ලැබීම නිසා මේ කරුණු අසා දැන ගන්නටත්, තේරුම් බේරුම් කර ගන්නටත්, මිනිසත් බව උතුම් වන්නේ මන්දැයි අවබෝධ කර ගන්නටත් හැකියාවක් මිනිසාට ලැබී ඇත.

මිනිස් කයක් (ශරීරයක්) ලබා මිනිසෙකු ලෙස උපතක් ලැබීම එකකි. මිනිසත් බවට පත්වීම තවත් එකකි. මිනිසෙකු ලෙස මිනිස් කයකින් උපත ලැබුයේ පෙර ජීවිතයේ කළ පින් නිසාමයි. ඒ පින් බලයෙන්මය. මිනිසෙකු බවට පත්වන්නේ, මිනිසත් බව ලබන්නේ, එය ආරක්ෂාකර දියුණු කරගන්නේ අද අද කරන, කියන, හිතන යහපත් දේ අනුවමය. මෙය තේරුම් ගත යුතු අවබෝධ කරගත යුතු ඉතාමත් වැදගත් සත්‍යයකි.

මිනිස් කයක් ලැබූ බොහෝ දෙනෙක් මිනිසත් බවට නොගැළපෙන, මිනිසත් බව කෙළෙසන පහත්, කිළිටි වැඩ කරති. එවැනි මිනිස්සු මිනිස් කයෙන්ම ජීවත්වෙමින් තිරිසන් බවට, ප්‍රේත බවට, යක්ෂ බවට, අමනුෂ්‍ය බවට පත්ව සිටිති. කලාතුරකින් කෙනෙකු මිනිස් කයෙන්ම දෙවි බවටද පත්ව ඇත. මිනිසෙකු ලෙස ඉපිද, මිනිසත් බවට පත්වී, මිනිසත් බව ආරක්ෂා කර ගැනීම මේ සියල්ලටම වඩා උතුම්ය. ශ්‍රේෂ්ඨය.

මිනිසත් බවට පත්වීම යනු තම ගතිගුණ, ගතිහඬ, ගතිරුව, ගතිබල, ගතිබව මිනිසත් බවට සුදුසු ලෙස, ගැළපෙන ලෙස පවත්වාගෙන යාමයි. සිතින්, වචනයෙන්, ක්‍රියාවෙන් කරන සියලු ක්‍රියාවන් ගතිගුණ, ගතිහඬ, ගතිරුව අනුවම සකස් කරගත් ඒවාය. කිළිටි, පහත් තත්ත්වයේ ගතිගුණ පැවැත්වීමෙන් මිනිස් බව කෙළෙසෙයි. මිනිස් කයකින් පෙනී සිටියත් තිරිසනෙකු, ප්‍රේතයෙකු, යක්ෂයෙකු, අමනුස්සයෙකුගේ ගතිගුණ, ගතිහඬ, ගතිරුව විදහාපායි. මිනිස් ජීවිතයක උපත ලබා මිනිස් බවට නොගැළපෙන ගතිගුණ පුරුදු කිරීම, පුහුණු කිරීම මිනිසත් බව කෙළෙසීමක් වන අතර පුරුදු කළ, පුහුණු කළ ගතිගුණ අනුව සංඛාර අනුව මේ ජීවිතයෙහිම මිනිසත් බවෙන් තුරන් වන අතර මතු කල්ප කාලාන්තරයකට මිනිසෙකු ලෙසින් නැවත උපත ලැබීමේ අවස්ථාව ද තමන්ම අහිමි කරගනී.

අනෙකුත් සත්ත්වයින් මෙන් නොව මිනිසා තමන් හිතන, කරන, කියන බොහෝ දේ කරන්නේ තම කැමැත්තෙන්මය. යම් සුවයක්, ප්‍රිය මධුර බවක් ආස්වාදයක් ලැබීමට ඉන්ද්‍රියයන් පිනවීමේ බලාපොරොත්තුවක් ඇතිවමය. මේ කරන, කියන, හිතන දේ

කරන්නේ, කියන්නේ, හිතන්නේ රාගයෙන්, ලෝභයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් නිසාම බව මනසින් දැක ගැනීමට, කල්පනාකර බැලීමට හැකියාවක්, ශක්තියක් මිනිසාට උරුමයෙන්ම ලැබී තිබේ. එයින් ප්‍රයෝජන නොගත්තේ නම් කරුමය උරුමවීම ද කාටවත් වැළැක්විය නොහැකිමය.

පින්පව්වලට වඩා හේතුඵල දහම මතු ජාතිය සකස්කර ගැනීමට උපකාර වන බව බුද්ධ දේශණාවයි. හේතු ඵල ධර්මතාව පිළිබඳව අසා දන යම් අවබෝධයක් ලබා මිනිස් කමට ගැළපෙන, මිනිස් බව රැකෙන ගති ලක්ෂණ පුරුදු කිරීම, පුහුණු කිරීම, පවත්වාගෙන යාම මතු සුගතියක උපත ලැබීමටත්, නිවන් දැක දුකින් මිදීමටත් හේතුවේ. මනසින් මැන සිතා බලා නිගමනය කිරීමත්, කල්පනා කර තීරණයක් ගැනීමත්, මිනිසාට උරුම වූ ගති ලක්ෂණයකි. ශක්තියකි. තමන්වම හෝ වෙනත් සත්ත්වයෙකු හෝ වැනසීමට, පීඩාවට පත්කිරීමට, පහත් කොට සැළකීමට, අවමානයට පත් කිරීමට, වෛර කිරීමට හේතුවන කිසිම සිතුවිල්ලක්, කථාවක්, ක්‍රියාවක් මිනිස් බවට නොගැළපෙයි. පෙර කළ පින් බලයෙන් අද මිනිස් කයක් දැරුවත්, බල්ලෙකුගේ ගතිගුණ ප්‍රදර්ශනය කළොත්, පුරුදු පුහුණු කළොත් ඔහු මිනිස් කයෙන්ම සිට බලු බවට පත් වූවෙකි. එනිසාම සමහර විට "බල්ලෙක් වාගේ වැඩ කරන්නට එපා" යනුවෙන් මිනිසුන් මිනිසුන්ටම කථා කරනු ඔබ අසන්නට ඇත. එවැනි පහත් ගතිගුණ පුරුදු කිරීමේ, ප්‍රදර්ශනය කිරීමේ ප්‍රතිඵලය මේ ජීවිතයේදීම ලැබෙන බවට එය හොඳම උදාහරණයකි. ඒ ගතියට ගැළපෙන ගතිහඬ ලැබීමයි. බල්ලන්, හරකුන්, කුරුල්ලන්, කොටි වැනි ලොකු සතුන්ද, කුහුඹියන්, වේයන්, ශුද්‍ර ජීවීන් වැනි කුඩා සතුන් ද ලෙස උපත ලබන්නේ තම තමන් සංසාරයේ පුරුදු පුහුණු කළ ගතිගුණ ඵල විපාක ලෙස තමන්ටම උරුම වීමෙනි. මෙය හේතුඵල දහමයි. හේතුඵල දහම ලොව පැවැත්මට, විපරිණාමයට, වෙනස් වීමට, බිහිකිරීමට මෙන්ම විනාශයටද බලපාන එකම ශක්තියයි යන්න කවදාවත් කාටවත් වෙනස්කළ නොහැකි සිද්ධාන්තයකි. මේ ධම්ම නියාමයයි. මේ බව තේරුම් ගෙන මිනිසෙකුව උපත ලත් මේ ජීවිතයේදී හැම කෙනෙකුම කල්පනා කළ යුත්තේ, මනස මෙහෙයවා නිගමනය කළ යුත්තේ, ලැබූ මිනිසත් බවට ගැළපෙන ගුණධර්ම, ගති ලක්ෂණ, සුචරිතය, සංවරත්වය පුරුදු පුහුණු කර, මතු මතුත් මෙවන් උතුම් මිනිසත් බවක් හෝ ලැබීමට සුදුසු සිතුවිලි, ක්‍රියා, වදන් ප්‍රගුණ කළ යුතු බවයි. මිනිසත් බව කෙළෙසන, මිනිසත් බවට නොගැළපෙන පහත් සංඛාර (ක්‍රියා, වදන්, සිතුවිලි) පුරුදු පුහුණු කිරීමේ ඵල විපාකය, ඒ පුරුදු පුහුණු කළ දෙයට උරුම වූ පහත් තත්ත්වයට තමන්ම වැටීමයි. නැවත සුගතියක ඉපැදීම කල්ප කාලාන්තරයකට වැසී යන්නේ, හේතුඵල දහමම ක්‍රියාත්මක වීම නිසාය. සුචරිතයෙහි යෙදී පින් කළ හොත් දෙව් බවට පත්වී සැප විඳිය හැකිය. දුෂ්චරිතයෙහි යෙදී පින් කළ හොත් බලු බවට පත්වී සැප විඳිය හැකිය. නගරයේ ලොකු ගෙවල්වල බල්ලන් සැප විඳින්නේ ඒ නිසාමය.

මිනිසෙකුව උපන් හැම කෙනෙකුටම යම් පමණකට ආයු, සැප, බල, වර්ණ, ප්‍රඥා යන සම්පත් ලැබී ඇත. මිනිසුන් දෙදෙනෙකුට පවා මේ සම්පත් එකම තත්ත්වයෙන් නොලැබෙයි. ඒ නිසාම මිනිසුන් දෙදෙනෙකු එක හා සමාන නොවේ. වෙන කිසිම සත්ත්වයෙකු, දෙවියෙකු මේ සියලු සම්පත් ලබා උපත නොලබයි. ඒ සියලු සම්පත් ලැබුණේ ධර්මතාවයෙනි. මේවා කවුරුත් දුන් දෙයක් හෝ කාගෙන්වත් ඉල්ලා ප්‍රාර්ථනා කර ලබාගත හැකි දෙයක්ද නොවේ. ධර්මතාවයෙන් ලැබූ සම්පත් ධර්මයෙහි

හැසිරීමෙන්ම මනසින් කල්පනා කර, යථාවබෝධයෙන්ම දියුණු කර පවත්වාගත යුතුය. අධර්මයෙහි හැසිරීම නිසා ඊට උරුම ධර්මතාවයෙන්ම මේ සියලු සම්පත් තම තමන්ම අහිමි කර ගනියි. මෙය හේතු ඵල දහමයි.

බුද්ධ ධර්මය යනු භව උදුරා දමන්නට උපකාරක වන දහමයි. රාග බව, ද්වේෂ බව, මෝහ බව උදුරා දැමීම නිවනයි. පින්පව් නිසාම සියල්ල සිදුවේ, කර්මය නිසාම සියල්ල සිදුවේ යන මතවාදවලින් බැහැරව, හේතු ඵල දහම අනුව සියල්ල තීරණය වේ යන දර්ශනයෙහි පිහිටා කටයුතු කළහොත් ඔහු බෞද්ධයෙකි. උපතින් පරම්පරාවෙන් ලැබූ බෞද්ධකම බුද්ධියෙන් අවබෝධ කරගත් බෞද්ධකම නොවේ. පින්පව් දෙකම නිවනට බාධාවෝය. බුද්ධියෙන්, මනසින් කල්පනා කර බැලුවොත් මේ කොතරම් දුරට සත්‍යයක් දැයි තේරුම් ගත හැකිය. හේතුවක් නැති තැනක ඵලයක් තිබිය නොහැකිය. හේතුවක් ඇති තැනක ඊට උරුම ඵලයක්ද ලැබීම කාට හෝ නැතිකළ නොහැක. ඒ නිසා ඵල ලැබීමට හෝ ඵල වෙනස් කිරීමට හෝ ඵල නොලැබීමට හෝ කළ යුතු එකම දේ හේතු බිහි නොකිරීම හෝ හේතු වෙනස් කිරීමය. උතුම් වූ මිනිස් බවට පත්ව, උතුම් මිනිස් ගති ලක්ෂණ පුරුදු පුහුණු කරන, පවත්වන උත්තමයා සියලු දෙවියන්ට, බ්‍රහ්මයින්ට, අමනුස්සයින්ට වඩා උසස්ය. ශ්‍රේෂ්ඨය. මේ උතුම් බව, ශ්‍රේෂ්ඨ බව විදහා දක්වන හොඳම උදාහරණය එවැනි උත්තමයෙකු තමන් මෙන්ම සකල ලෝකවාසී සියලු සත්ත්වයින්ගේද යහපත පතාම, ඔවුන්වද දුකින් මිදවීමේ පරම අභිලාෂයෙන්ම අවංක පරාර්ථකාමී අදහසින්ම තම සිතුවිලි, ක්‍රියා, වදන් පවත්වන උතුම් ගතියයි. එසේ කරන්නේ යම් ලාභයක්, කීර්තියක්, ප්‍රශංසාවක් හෝ වෙනයම් ප්‍රතිලාභයක් හෝ බලාපොරොත්තුවෙන් නොවේ. හුදෙක් කරුණා, මෙත්තා සහගත සිතින්මය. අනෙකාවද දුකින් මිදවීමේ එකම අභිලාෂයෙනි.

පින්පව්, කුසල් අකුසල් වෙන් කොට දැන හඳුනාගත හැක්කේ, අසා දැන අවබෝධ කරගත හැක්කේ මිනිසෙකුට පමණි. ලෞකික, ලෝකෝත්තර දෙකෙහි වෙනස අවබෝධ කරගත හැක්කේද මිනිසෙකුටමය. එමෙන්ම සම්මතය හා පරමාර්ථ ධර්ම අතර වෙනස, භක්තිය හා ශ්‍රද්ධාව අතර ඇති වෙනස්කම්ද දැන හඳුනාගත හැකි වන්නේ මිනිසෙකුටමය. පෘථග්ජන පුද්ගලයා සහ අරිය උත්තමයා, අරිය- අනරිය වෙනස්කම් මෙන්ම ධ්‍යාන හා මාර්ග ඵල ආදී උසස් උතුම් කරුණු අවබෝධ කොට දැකගත හැක්කේ මිනිසෙකුටමය. මේවා පිළිබඳව වෙනස්කම් දැන ගැනීම, අසා හෝ කියවා අවබෝධ කර ගැනීම ධර්මාවබෝධය ලැබීමයි. දහම් රසය විඳීමට හැකිවන්නේ මේවා මෙනෙහි කිරීමෙන්ම වෙනස පැහැදිළි කර ගැනීමෙන්ය.

උත්තමයෙකු දේශණා කරන ධර්මය ශ්‍රවණය කිරීමෙන් හෝ පොතපතක ලියැවී ඇති ධර්මය තෝරා බේරාගෙන සත්‍යය අවබෝධ කරගැනීමට හෝ හැකි වන්නේ, විපස්සනා අනුපස්සනා කර ප්‍රඥාව වඩාගත හැකි වන්නේ, ඇසූ ධර්ම ධාරණය කර සත්‍යය සමඟ සම්බන්ධ විය හැකි වන්නේ, චිත්ත පාරිශුද්ධිය ලබා ධ්‍යාන උපදවා ගත හැකි වන්නේ යථාවබෝධයෙන් මඟඵල ලබාගත හැකි වන්නේ මිනිසෙකුටම පමණි.

බුදුබව ප්‍රාර්ථනා කිරීම, බුද්ධත්වයට පත්වීම, පසේ බුදු බවට පත්වීම, මහ අරහතුන් වහන්සේලා වීම මෙන්ම අරිය තත්ත්වයට පත්වීම මිනිසෙකුට පමණක් කළ හැකි දේවල්ය. එවැනි උතුම් තත්ත්වයට පත්වූ මිනිසුන් ආදියෙහි විසූ බවත්, මතුවටත් මිනිසුන් අතරින්ම බිහිවන බවටත් කාට හෝ තර්කයකින්, විද්‍යාවකින් බොරුකළ හැකි නොවේ. සම්මතය අතින් බැලුවත් අහසින් යාමට, මහ සයුර තරණය කිරීමට, ගුවන් යානා නැව් සැදුවේ මිනිසා මනස මෙහෙයවා කටයුතු කිරීමෙනි. මිනිසුන් විනාශ කිරීමට යුද්ධායුධ, බෝම්බ තැනුයේත් මනස මෙහෙයවීමෙන්ය. තමන්ට හෝ වෙනත් සත්ත්වයෙකුට හෝ යහපත මෙන්ම අයහපත දෙකටම කටයුතු කළ හැකි එකම සත්ත්වයා මිනිසාය. බඩගින්න, නින්ද, මෛථුනය, භය අනිත් සියලු සත්ත්වයින්ට පොදු අවශ්‍යතාවයෝය. මේ කාරණා සතර සඳහාම සියලු සත්ත්වයෝ සියලු සංඛාර පවත්වති. මිනිසා පමණක් මේවාට වෙනස්ව කටයුතු කළ හැකි ශක්තියක් ලබා ඉපැදී ඇත. මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා යන සතර බ්‍රහ්ම විහරණයන් පැවැත්විය හැකි මිනිසෙකුටම පමණි.

අප උපත ලැබූ මේ වාසනාවන්ත කාලය බුද්ධෝත්පාද කාලයකි. බුදුපියාණන් වහන්සේ කෙනෙකු පහළ වී අනන්ත අප්‍රමාණ මහඅරහතුන් වහන්සේලා පහළ වී යහපත් චිත්ත කිරණ ශක්තීන් ලොවට පතුරුවා විශ්වය බලගැන්වූ ශක්තියක් පවතින කාලයකි. මිනිසෙකු ලෙස උපත ලබා, පරම පවිත්‍ර සිරි සද්ධර්මයද ශ්‍රවණය කරන්නට ලැබී, මනස මෙහෙයවා, එය අවබෝධ කර, ප්‍රඥාව, සත්‍යාවබෝධය ලැබීමෙන් බුද්ධත්වයට පත්විය හැකි කාලයකි මේ. එය "ඛණ සම්පත්තිය" ලැබීමයි. විමුක්තිය ලැබීමයි. නිවන් දැකීමයි. දුකින් මිදීමයි. මේ සියල්ල තම තමන් තම මනසින්ම දැන, දැක ලබාගත යුතු තත්ත්වයන්ය. අම්මා, තාත්තා හෝ දෙවියන් බ්‍රහ්මයින් හෝ බුදුපියාණන්, මහා සංඝරත්නය හෝ වෙනත් විශ්වකර්මයෙකු හෝ ඔබ වෙනුවෙන් මේ කිසිවක් කරදීමට සමත් නොවෙති.

මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා යන සතර බ්‍රහ්ම විහරණයෙහි යෙදෙමින් අප්‍රමාණ වූ ලෝක සත්ත්වයා වෙත අප්‍රමාණ ලෙසින් සම මෙත පැතිරවිය හැකි වන්නේ මිනිසෙකුට පමණි. අනන්ත දුක් විඳින ලෝක සත්ත්වයා වෙත මනුස්ස, අමනුස්ස, දේව, බ්‍රහ්ම යන සතර කොට්ඨාශයටම අයත් සත්ත්වයා වෙත "සරණ" විය හැක්කේ මිනිසෙකුට පමණි.

"සරණ" වීම යනු තේරුම් කරගත යුතු වචනයකි. "බුදුන් සරණ යමි, දහම් සරණ යමි, සඟුන් සරණ යමි" යැයි උදේ හවස කීවත් මෙහි තේරුම බොහෝ අය අවබෝධ කරගෙන නැත. සරණ යනු පද දෙකකි. සර, චර ගමන් කරන, පැවැත්ම යන තේරුමයි. "ණ" යනු නතර කිරීම, නැවැත්ම, අවසන් කිරීම යන තේරුමයි. මේ අනුව සරණ යනු අප කවුරුත් නොනවත්වාම කරන මේ සංසාර ගමන නැවැත්වීමට, එය නවත්වා විඳින දුක් කන්දරාවෙන් මුදවා ගැනීමට උපකාර වීමයි. උපනිශ්‍රය වීමයි. බුද්ධ, ධම්ම, සංඝ යන ත්‍රිවිධ රත්නයේ සරණ යෑම යනු මේ උපනිශ්‍රය ලබා ගැනීමයි. සත්‍යය අවබෝධ කරගත් සියලුම උත්තමයින් දුක් විඳින අනන්ත අප්‍රමාණ සත්ත්වයින්ගේ අනාථ බව දැක, ඒ දුකින් ඒ සත්ත්වයා මුදවා ගැනීමේ පරම ආධ්‍යාසයෙන්ම මෙසේ "සරණ" වූ සේක. ඒ සරණ ලබාදීමට ධර්මය දේශණා කළ සේක.

මිනිසෙකුට මිස වෙනත් කිසිඳු සත්ත්වයෙකුට, දෙවියෙකුට, බ්‍රහ්මයෙකුට, අමනුස්සයෙකුට හෝ විශ්වකර්මයෙකුට "සරණ" ලබා දිය නොහැකිය. පිහිටක්,

සංසාර සම්බන්ධතා වලින් මිදී නිදහස් වෙනතුරා නිවන් දැකිය නොහැකිය. නිදහස් විය යුත්තේ මෙවැනි සංසාර සම්බන්ධතා වලිනුත්, සියලු ආකාරයේ බලාපොරොත්තු වලිනුත් බව සියලු දෙනා අවබෝධ කර ගත යුතුය.

මේ සියලු කරුණු ගෙනහැර දැක්වූයේ මිනිසකු ලෙස ඔබ ලැබූ මේ අත්බව ඉතාම දුර්ලභ, ඉතාම උතුම් අවස්ථාවක් බව පෙන්වා දීමටයි. නැවත මිනිසෙකු ලෙස කවදා උපත ලබාවි දැයි කිසි කෙනෙකුට කිසි ලෙසකින් සහතික විය නොහැකියි. මේ ලැබූ ආයුෂ ඉතා කෙටිය. ලැබූ අවස්ථාවෙන් අද අදම උපරිම ඵල ලැබීමට කටයුතු කිරීමෙන්ම විමුක්තිය අත්කර ගත යුතුය.

"සියල්ලන්ම යථාවබෝධයෙන් යුතුව ධර්මයෙහි හැසිරෙත්වා."

* * * * * * * * * * *

## බුද්ධාගම හා උතුම් බුද්ධ ධර්මය

නිවන් අවබෝධ කර ගැනීමට උපකාර වන එකම ධර්මය පරම පවිත්‍ර බුද්ධ ධර්මයයි. බුද්ධ ධර්මය ඉතාම සරළ ලෙසින් පැහැදිළිව, නිරවුල්ව, පිරිසිදුව ගෝතම සාක්‍යමුනීන්ද්‍රයාණන්වහන්සේ සොයා දැන දේශණා කළ ධර්මයයි. මිනිසෙකු ලෙස උපත ලබන ඕනෑම කෙනෙකුට එසේත් නැත්නම් මුළු මහත් මිනිස් වර්ගයාටම අසා දැන තේරුම් ගත හැකි, තේරුම් ගෙන අනුගමනය කළ හැකි, අනුගමනය කර අත්විඳ ගත හැකි එකම උතුම් ධර්ම මාර්ගයයි. මිනිසෙකුට පමණක්ම මනස මෙහෙයවා යෝනිසෝ මනසිකාරයෙන් තේරුම් ගෙන අනුගමනය කිරීමෙන් පමණක්ම මහඟු ප්‍රතිඵල අත්කරගත හැකි උතුම් ධර්මයකි.

ජාති කුල භේද, ආගම් භේද, උගත් නූගත් කම්, උස් පහත් කම්, පොහොසත් දුප්පත් කම්, සුදු කළු භේද හෝ ගිහි පැවිදි වෙනස්කම් පවිත්‍ර බුද්ධ ධර්මයට නැත. බුද්ධ ධර්මය එක රටකට, එක ප්‍රදේශයකට හෝ එක කාලයක උපතලත් මිනිසුන් කොටසකට හෝ සීමාවූ දහමක් නොවේ. අතීත, අනාගත, වර්තමාන තුන් කාලයේම ජීවත්වන මිනිසුන් සඳහාම සුදුසු, සියලු මිනිසුන්ට යහපත, විමුක්තිය ළඟාකර ගන්නට උපකාර කරගත හැකි ධර්ම මාර්ගයකි.

බුද්ධ ධර්මයෙහි එකම විශේෂත්වය වන්නේ මේ ධර්මය තම තමන්ම මනස මෙහෙයවා ස්වභාව ධර්මයේ පැවැත්ම පිළිබඳව විද්‍යාත්මක සත්‍යය ප්‍රඥාවෙන්ම තේරුම් ගතයුතු වීමයි. ඒ විශේෂත්වය නිසාම ප්‍රඥාවෙන්ම දැරිය යුතු විද්‍යාත්මක වූ නිසාම මේ උතුම් ධර්මයට බුද්ධ ධර්මය යන නම ලැබුණි.

පරම පවිත්‍ර බුද්ධ ධර්මයෙහි හරය, යථාර්ථය තේරුම් ගැනීමට නම් ජාති, කුල මල, ආගම් සංකල්ප, බටහිර, පෙරදිග මතිමතාන්තර, උගත් නූගත්කම් මෙන්ම ගිහි පැවිදි වෙනස්කම්වලින්ද නිදහස්ව, මේ ධර්මයෙන් ගෙනහැර දැක්වූ විද්‍යාත්මක වූත්, ස්වභාවික වූත් සත්‍යයම ප්‍රඥාවෙන් වටහා ගන්නට උත්සාහ ගත යුතුය.

පාට කණ්ණාඩියක් පැළඳ යම් දෙයක් දෙස බලන කෙනෙකුට එය දකින්නට ලැබෙන්නේ ඒ කණ්ණාඩියේ පාටට අනුරූප වූ විකෘත ස්වභාවයකිනි. එය සත්‍යය දර්ශනයක් නොවේ. මායා දර්ශනයකි. එය මිත්‍යා දෘෂ්ටියකි. සියලු දෘෂ්ටි අතහැර, සියලු ආගම් සංකල්ප අතහැර මිනිසෙකු ලෙසින් තම මනස මෙහෙයවා මේ උතුම් විද්‍යාත්මක සත්‍යයෙන් ගෙනහැර දක්වන ලද ධර්මය තම තමාගේම විමුක්තිය සඳහාම උපකාර කරගත හැකි ආකාරය ගැන විමසිලිමත්ව සොයා බැලිය යුතුය.

බුද්ධාගම හා බුද්ධ ධර්මය යනු එකක්ම නොවේ. මේ දෙකෙහි වෙනස නිවැරදි ලෙසත් බුද්ධියෙන් යුතුවත් වටහා ගැනීම නිවන් අවබෝධ කර ගැනීමට උපකාර වේ. උපතින්ම බෞද්ධයෙකු ලෙස බුද්ධාගම උරුමයෙන් අදහන කෙනෙකුට මේ දෙකෙහි වෙනසක් ඇති බවක් තේරුම් ගැනීමද තරමක් අපහසු දෙයකි. උපතින්ම උරුම වූ ආගමික සංකල්ප, ඇදහිලි, පුද පූජා ක්‍රම, වත් පිළිවෙත්වලට තදින්ම පුරුදු පුහුණු වූ භක්තිමත් බෞද්ධයෙකුට මේ කියන කථාවත් සංවේගයට හේතුවන්නට ද බැරි නැත. අනෙකුත් සියලුම ආගම්වල මෙන්ම බුද්ධාගමෙහිත්, පොදුජන පහන් සංවේගය සඳහා, භක්තිය හා ජනප්‍රසාදය ඇති කර ගැනීම සඳහා කලින් කලට එකතු කරගත් විවිධ ආගම් සංකල්ප වලින් ගහන බව කාටත් දැකගත හැකි සත්‍යයකි. බුද්ධාගම 2600ක කාලයක් අද පවතින තත්ත්වයෙන් ජනප්‍රිය ආගමක් සේ පවත්වා ගෙන එන්නට ඒවා උපකාර වූ බව ද සත්‍යයකි.

පරම පවිත්‍ර බුද්ධ ධර්මය මීට වඩා බෙහෙවින් ගාම්භීර වූ, උතුම් වූ, පිරිසිදු වූ ධර්මයකි. මිනිසෙකු විසින් බුද්ධියෙන්ම තේරුම් ගෙන, බුද්ධියෙන්ම අනුගමනය කර, බුද්ධියෙන්ම අත්විඳිය යුතු සදාකාලික වූ විද්‍යා සිද්ධාන්තයකි. ඒ උතුම් ධර්මයෙන් පෙන්වා වදාළ විද්‍යා සිද්ධාන්ත කාලය අනුව වෙනස් නොවන, වෙනස් කළ නොහැකි, දේශයෙන් දේශයට වෙනස් නොවන, මිනිසුන් වූ කාටත් බුද්ධියෙන් තේරුම් ගත හැකි ස්වභාවික ධර්මතාවන් ක්‍රියාත්මක වන ආකාරය විග්‍රහ කර පෙන්වා දුන් පරම සත්‍යය එළි දැක්වීමකි.

බුද්ධාගමද ඒ උතුම් ධර්මයම පදනම් කොට ගෙන කලින් කලට ජනප්‍රිය වූ ආගම් සංකල්පයන්ද එකතු කරගෙන, පොදු ජනයාගේ සිත් ගන්නා ලෙසින්, ගරු බුහුමන් ලබන්නට හැකිවන පරිදි, භක්තියෙන් අදහන්නට සුදුසු පරිදි සකස් කරගත් ආගමකි. එවැනි වූ බුද්ධාගම මිහිඳු හිමියන් ලංකාවට ගෙන ආ දින පටන් අද දක්වාම විවිධ වෙනස්කම්වලට භාජනය විය. බෙදීම්වලට හා විපරිණාමය වීම් වලටද ලක්විය. ඒ අනුවම අද පවතින බුද්ධාගමද තව නොබෝ කලකින්ම වෙනස් වී, විපරිණාමයට පත්වීම කාටවත් නැවැත්විය නොහැකි දෙයකි.

පරම පවිත්‍ර බුද්ධ ධර්මය කිසිම ආකාරයකින් කිසිම දවසක එවැනි වෙනස්කම්වලට විපරිණාමවලට භාජනය වන එකක් නොවේ. ඊට අලුතින් යමක් එකතුකර ගත

නොහැකිය. පවිත්‍ර බුද්ධ ධර්මය තාවකාලිකව භාවිතයෙන් යටපත්ව ගිය හැකිය. නමුත් ධර්මය විනාශ කර දැමිය නොහැකිය. යටපත්ව ගිය බුද්ධ ධර්මය බුද්ධියෙන්, හේතුඵල දහම තේරුම් කරගන්නට හැකි වූ උත්තමයෙකුට නැවත මතුකර භාවිතයට ගත හැකි උතුම් ධර්මයක් නිසාම එය බුද්ධ ධර්මය විය.

සත්ත්ව, පුද්ගල උපත, පැවැත්ම, විපරිණාමයට පත්වීම, ජරාවට පත්වීම, මරණය, දුක් විඳීම ආදී ඇතිවීම හා නැතිවීම සම්බන්ධ වූ නොනවතින ක්‍රියාවලියට පාදක වූ හේතු මෙන්ම, මේ ක්‍රියාවලිය නොනවත්වාම, උත්සාහයක් නැතිවම, ස්වභාවිකවම, දිගින් දිගටම පවත්වාගෙන යන්නට හේතු පාදක වූ ශක්ති ප්‍රභවය ද විග්‍රහ කර, විස්තර කර වදාළ එකම ධර්මය බුද්ධ ධර්මයයි. උපත, මරණය, දුක් විඳීම වැනි දේ බෞද්ධයින්ට පමණක් සීමා වූ දේ නොවේ. අතීත, අනාගත, වර්තමාන තුන් කාලයෙහිම උපදින සියලු සත්ත්වයින්ට පොදු විද්‍යාත්මක සත්‍යයන්ය. ඒ නිසා බුද්ධ ධර්මය බුද්ධාගමට වඩා බොහෝ සෙයින් ගාම්භීර වූ එකකි.

සම්මත බුද්ධාගමෙහි අද භාවිතා කරන බොහෝමයක් අංගයන් විවිධ ආගම් සංකල්ප සංකලනය කරගැනීමෙන් සකස්කර ගත් ඒවාය. පරම පවිත්‍ර බුද්ධ ධර්මයේ විද්‍යාත්මක සිද්ධාන්ත යටපත්ව, ආගමික සංකල්ප මතුවීමද ධර්ම ස්වභාවයෙන්ම සිදු වූ දෙයකි. එය කාට හෝ වරදක් පැටවිය යුතු, ඇඟිල්ල දිගුකළ හැකි දෙයක්ද නොවේ. හේතුඵල දහම යථාපරිදි තේරුම් ගත් කෙනෙකුට පමණක් මේ ධර්ම ස්වභාවයද මොනවට තේරුම් ගත හැකි වනු ඇත.

ගෝතම ශාක්‍යමුණීන්ද්‍රයාණන්වහන්සේ කිසිම භේදයකින් තොරව මුළු මහත් මිනිස් වර්ගයා සඳහාම දේශණාකර වදාළ බුද්ධ ධර්මය පර්යාප්ති, පටිපත්ති, පටිවේද ශාසනය ලෙසින්ද නම් කරන්නට යෙදුණේ මේ නිසාමය. "සුතේථ, ධාරේථ, චරේථ" යනුද බුද්ධ ධර්මයම විස්තර කරන්නට භාවිත කළ පද වැලකි. මේ සියලු ආකාර පදවලින් විස්තර කරන්නට යෙදුනේ බුද්ධ ධර්මය අසා දැන, බුද්ධියෙන් තේරුම් ගෙන, තේරුම් ගත් හේතුඵල ධර්මයට අනුව ක්‍රියාකර, බුද්ධියෙන්ම අනුගමනය කර, අත්විඳ ගත යුතු එකක් වන බවයි.

මේ නිසාම මේ උතුම් ධර්මයට, බුද්ධ ධර්මය යන නම ලැබුණි. කිසියම් ආගමික නායකයෙකුගේ නමින් මේ නම ලැබුණා නොවේ. ගෝතම ශාක්‍යමුණීන්ද්‍රයාණන් වහන්සේ ස්වයංභූ ඥාණයෙන්ම, බුද්ධියෙන්ම සොයා මතු කර පෙන්වූ ධර්මය, බුද්ධිය මෙහෙයවා තේරුම් ගෙන, බුද්ධියෙන් දැරිය යුතු නිසාම "ධාරේථ" යැයි ප්‍රකාශ කළ සේක.

බුදුපියාණන්වහන්සේ බුද්ධත්වයට පත්වී කලක් ගතවන තුරු මේ උතුම් ධර්මය "විභජ්ජ වාදය" ලෙසින් හැඳින්වූ බව පැහැදිලිය. ඉන් පසු මේ ධර්මයට "බුද්ධවාදය" යන නමද භාවිතා කළහ. බුදුපියාණන්වහන්සේ පෙන්වා දුන් විද්‍යා සිද්ධාන්ත ප්‍රඥාවෙන් දැරිය යුතු වන නිසාම පසුව එය බුද්ධ ධර්මය ලෙස නම් කෙරිණි. බුද්ධාගම ලෙස එය සකස් කර භක්තියෙන් අදහන්නට වූයේ බුදුපියාණන්වහන්සේ පිරිණිවීමෙන් වසර එකසිය පණහක්, දෙසීයක් තරම් පසු කාලයකදීය.

බුදුපියාණන් මේ උතුම් විද්‍යා සිද්ධාන්ත මතුකර දේශණා කළ යුගය වනවිට ජන්බුද්වීපය ප්‍රදේශයේ පමණක් විවිධ ආගම් හැට හතරක් ප්‍රචලිතව, ජනප්‍රියව පැවතුන බව ඉතාමත් ප්‍රසිද්ධය. ඒ ආගම් සියල්ලම සත්ත්ව පුද්ගල දෘෂ්ඨිය, ආත්ම අනාත්ම සංකල්ප, පුනරුත්පත්තිය, මතු ආත්ම භවයන් ආදී සංකල්ප පදනම් කර ගෙන විවිධ ඇදහිලි, වත්පිළිවෙත්, පුදපූජා ක්‍රම අනුගමනය කර ඇදහිය යුතු ආගම් විය. ඒ කිසිඳු ආගමකින් මිනිසෙකු ලෙස උපත ලත් කිසිම කෙනෙකුට පූර්ණ විමුක්ති සුවයක්, නිවනක් ලබා ගත නොහැකි බව පැහැදිළිවම තේරුම් ගත් බුදුපියාණන්වහන්සේ ඒ සියලු ආගම් ප්‍රතික්ෂේප කර බැහැර ලා, විභජ්ජ වාදය නැමැති මේ උතුම් බුද්ධ ධර්මය ඉදිරිපත් කළ සේක. ඒ යුගයේ හැටියට මෙය කාටවත් සිතාගන්නටවත් නොහැකි තරමේ මහා පෙරළියක්, විප්ලවයක්ම විය. සියලු ආගම් යටපත්ව කෝටි ප්‍රකෝටි ගණනින් මිනිසුන් බුද්ධ ධර්මය අනුගමනය කරන්නට විය.

උතුම් බුද්ධ ධර්මය හුදු න්‍යායක් හෝ දර්ශනයක් හෝ පමණක්ම ලෙසින් සැළකීම සුදුසු නොවේ. බුදුපියාණන්වහන්සේම දේශණාකර පෙන්වා වදාළ පරිදි මෙය පර්යාප්ති ධර්මයකි. එනම් නිවැරදි විමුක්ති මාර්ගයකි. ඒ විමුක්ති මාර්ගය අනුගමනය කළ, අත්දුටු, අත්විඳගත් බුදුපියාණන්වහන්සේලා මෙන්ම අනන්ත අරහතුන්වහන්සේලාටද මාර්ග ඵලයන්ට පත් වූ තවත් එවැනිම විශාල කොටසකටද සදහටම සංසාර දුකෙන් මිදී නිදහස් වීමට උපකාරී වූ නිවැරදි ධර්ම මාර්ගය විග්‍රහ කිරීමකි. මේ විමුක්ති මාර්ගය ඕනෑම මිනිසෙකුට තේරුම්ගෙන, අනුගමනය කර අත්විඳගත හැකි නිසා මෙය ප්‍රතිපත්ති මාර්ගයක් ලෙසද පෙන්වා වදාළහ. මෙය එක ජාතියකට, ආගමකට, රටකට, කුලයකට හෝ එක කාලයකට සීමා වූ ධර්ම මාර්ගයක්ද නොවේ. කිනම් කාලයකදී හෝ පටිච්චසමුප්පාද ධර්මය තේරුම් ගෙන, ත්‍රිලක්ඛණය අවබෝධ කරගත්තේ නම් එය චතු අරිය සත්‍යයන්ම අවබෝධකර ගන්නට උපකාර වන නිවැරදි මඟ පෙන්වන දහමකි. මෙහි එකම විශේෂත්වය වන්නේ ඒ ඒ පුද්ගලයාම පෞද්ගලිකවම ප්‍රතිපත්තීන් පුරා මාර්ගය සම්පූර්ණ කරගත යුතු වීමයි.

විඤ්ඤාණ ශක්තියෙන්ම උපත ලබන, ජීවත්වන හැම කෙනෙක්ම තම මනසේ ශක්තීන්ම දියුණු කරගෙන, විඤ්ඤාණ ශක්තියම පිරිසිදු චිත්ත ශක්තියක් බවටද ශුද්ධ පවිත්‍ර කරගැනීම මේ ප්‍රතිපත්ති මාර්ගයයි. එය තමන් විසින්ම තමා සඳහාම අනුගමනය කළ යුතුය.

මේ උතුම් ධර්මයට හිමිකරුවෙකු හෝ අයිතිකරුවෙකු හෝ නැත. සියලුම ලොව්තුරු බුදුපියාණන්වහන්සේලා ස්වයංභූ ඥාණයෙන්ම මතුකර තමන්ම සොයා දැනගත් මේ උතුම් ධර්මයටම ගුරු තනතුරින්ද පිදුම් කළ සේක. ඒ නිසා මේ ධර්මයේ අයිතිය කියාපාන්නට කිසිම අරහතුන්වහන්සේ කෙනෙකුට හෝ ස්වාමීන්වහන්සේ කෙනෙකුට හෝ නොහැකිය. සියලුම ශ්‍රාවකයින්, අනුගාමිකයින් හා භික්ෂූන්ගේ වගකීම වන්නේ නිවැරදි මඟ සොයා දැන බුදුපියාණන් මතුකර පෙන්වා වදාළ මඟ අනුගමනය කර, එය තමාගේම පෞද්ගලික අත්දැකීමක් බවට පත්කරගෙන නිවන අත්විඳ ගැනීමයි. මේ නිසා මෙය ආගමක්, න්‍යාය ධර්මයක් හෝ දර්ශනවාදයක් හෝ පමණක්ම නොවන බවත් සෑම කෙනෙකුම තේරුම් ගත යුතුය.

උතුම් බුද්ධ ධර්මය ආගම් සංකල්පයක් හෝ ඇදහිලි මාර්ගයක් හෝ නොවේ. යම්කිසි කෙනෙකුට භක්තියෙන්, අවිචාරවත් ශ්‍රද්ධාවෙන් වැඳුම් පිදුම් පමණක් කර, ප්‍රාර්ථනා කරමින් පැතීමෙන්ම පමණක් ඉෂ්ට සිද්ධ කරගත හැකි දෙයක්ද නොවේ. සුතේථ, ධාරේථ, චරේථ යන පියවරයන් තුනෙහිම වැඳුම්, පිදුම්, යැදුම්, පැතුම් මාර්ගයක් පෙන්වා දී නැත. පර්යාප්ති ශාසනය, ප්‍රතිපත්ති ශාසනය, ප්‍රතිවේධ ශාසනයෙහිද එවැනි කිසිම වැඳුම් පිදුම් මාර්ගයක් පෙන්වා දී නැත. යාඥා කර, පූජකයෙකුට පිරිකරක් පූජාකර, කන්නලව්වකින් කරගත හැකි දෙයක් ද මෙහි නැත. කිසිම ආකාරයක මතිමතාන්තර හෝ දෘෂ්ටිගත වීමේ ක්‍රමයක් ද මෙහි නොවේ. බුද්ධියෙන් තර්කයෙන් ගොඩනගාගත් සම්මතයන්ද මෙහි නැත. තවත් කෙනෙකුගෙන් ඉගෙනගෙන, උකහා ගෙන, බුද්ධියට ගෝචර කරගත හැකි දෙයක්ද නොවේ. තමන්ම තමා තුළින්ම දැහැමි ප්‍රතිපදාවක් අනුගමනය කර අවංක වීමෙන්, පිරිසිදු වීමෙන්, පිවිතුරු වීමෙන්, ප්‍රභාශ්වර තත්ත්වයටද පත්විය හැකි තමාගේම සිතෙහිම ඇතිවන අධ්‍යාත්මික චිත්ත පාරිශුද්ධතාවකි. රාගයෙන් තොර, ද්වේෂයෙන් තොර, මෝහයෙන් තොර පිරිසිදු සිතක් තමා තුළින්ම මතුකරගෙන, තමන්ම අත්විඳ ගන්නා අධ්‍යාත්මික වූත්, අභ්‍යන්තර වූත් සුවය අත්විඳීම නිවනයි. විමුක්තියයි.

මේ විමුක්ති මාර්ගය, විද්‍යාත්මක සත්‍යය සොයාදන, යථාපරිදි මතුකර, පැහැදිලිව විග්‍රහ කර, ලෝකයාට දේශණා කරන්නට යෙදුණේද, ඒ ඒ පුද්ගලයාට තම තමන්ගේම බුද්ධිය දියුණු කර තම විමුක්ති මාර්ගය තමන්ටම සකස් කර ගන්නට උපකාර වන ආකාරයටය. නිවන් අවබෝධ කරගැනීමට උපකාර කිරීම, විමුක්ති මාර්ගය පෙන්වා දීම මේ ධර්මය දේශණා කිරීමේ එකම අරමුණ හා පරමාර්ථය විය. වෙනත් කිසිම ආකාරයක ලෞකික පරමාර්ථයක් හෝ අරමුණක් ඇතිව මේ ධර්මය දේශණා කළා නොවේ.

විශ්වය පිළිබඳව අග මුල සෙවීම හෝ මිනිසාගේ, සත්ත්වයාගේ උපතේ අග මුල සෙවීම හෝ මතු ආත්ම භවයන්, පෙර ආත්ම භවයන් ගැන පෙන්වා දීමට හෝ ලෞකික සැප සම්පත් දියුණු කර සංවර්ධනය කර ගන්නා ආකාරය පෙන්වා දීමට හෝ දේශණා කළ ධර්මයක් නොවේ. රටක්, ලෝකයක්, සමාජයක් හදන්නට හෝ මෙහි කී නොකී කිසිම ආකාරයක ලෞකික පරමාර්ථයකින් හෝ අරමුණකින් හෝ බුදුපියාණන්වහන්සේ බුද්ධ ධර්මය දේශණා කළා නොවේ.

ලෝකෝත්තර නිවන් සුවය අත්කර ගන්නට මිනිසුන්ට බුද්ධියෙන් දරාගත හැකි, දරාගත යුතු ධර්ම මාර්ගය පෙන්වා දී, එය අනුගමනය කර, තම තමන්ටම අත්විඳ ගන්නට හැකි මඟක් පෙන්වීම කළා පමණි. මේ නිසා මේ උතුම් බුද්ධ ධර්මය කිසිසේත්ම බෞද්ධයාට පමණක් සීමා වූ එකක් නොවේ. බුදුපියාණන්වහන්සේ මේ ධර්මය සොයා දේශණා කළ යුගය වන විට එකද සම්මත බෞද්ධයෙකුවත් සිටියේ ද නැත.

මෙයින් පැහැදිලිවම තේරුම් ගත යුතු කරුණ වන්නේ, බුද්ධ ධර්මය දේශණා කිරීමේ ඒකායන අරමුණ වූයේ, පරමාර්ථය වූයේ, අනන්ත අප්‍රමාණ කාලයක පටන් සංසාර සාගරයේ අතරමං වී දුක් විඳවන ලෝක සත්ත්වයා දුකින් මුදවා ගෙන, විමුක්තිය ළඟාකර ගත හැකි පැහැදිලි මඟක් සොයා පෙන්වා දීම පමණක්ම බවයි.

බුද්ධ ධර්මයෙන් පෙන්වා දුන් මේ පිරිසිදු පැහැදිළි නිවන් මඟ පෙන්වා දීමට කිසිම ආගමකට අතීතයේදී නොහැකි වූවා මෙන්ම මතු අනාගතයේදී ද කිසිම ආගමකට හැකි කමක් නැති බවද සහතික කොට ප්‍රකාශ කළ හැකිය. නිවන් අවබෝධ කර ගැනීමට, විමුක්තිය ළඟාකර ගැනීමට නම් "පරම පවිත්‍ර බුද්ධ ධර්මයම" සොයා දැන භාවිතා කළ යුතුය. බුදුපියාණන්වහන්සේට, උතුම් සිරි සද්ධර්මයට ගරු කරන සියලුම මිනිසුන් මේ සත්‍යය මැනවින් තේරුම් ගෙන කටයුතු කළ යුතුය.

* * * * * * * * * *

## නිවන් දැකීම යනු කුමක්ද?

නිවන් අවබෝධ කරගැනීම යනුවෙන් අදහස් කරන්නේ කුමක්දැයි පැහැදිළි ලෙසම, සරළ ලෙසම විග්‍රහ කර ඇති බුද්ධ දේශණාව වන්නේ,

"රාගක්ඛයෝ නිබ්බානං , ද්වේෂක්ඛයෝ නිබ්බානං"
මෝහක්ඛයෝ නිබ්බානං"

යන බුද්ධ දේශණාවයි.

යම් කෙනෙකුට රාගය, ද්වේෂය, මෝහය යන ළාමක ගති ලක්ෂණයන් තම චිත්තසංථානයෙන් පූර්ණ වශයෙන්ම බය කර දමන්නට, අතහැර දමන්නට, සදහටම එවැනි ගති ලක්ෂණවලින් මිදී නිදහස් වන්නට හැකියාව ලැබුණොත්, ඒ උත්තමයා නිවන් අවබෝධ කර ගනී.

රාගය, ඡන්දරාගය යනුවෙන් විග්‍රහ කරන ලද මේ පළමුවන ගති ලක්ෂණය පුද්ගලයෙකුගේ, සත්ත්වයෙකුගේ චිත්තසංථානයේ පහළවන ගතියකි. ප්‍රියයි, මධුරයි, මිහිරියි, සුවයි, සැපයි යනුවෙන් යමක් කෙරෙහි ගන්නා වූ දෘෂ්ටිය අනුවම, ඒ නිසාම යමකට බැඳීමක්, එකතු වීමක්, ඇලීමක් ඇතිකර ගැනීම මේ ගති ලක්ෂණයයි. රාග යනු මත්වීමෙන්, මත් වූ සිතෙන් යමකට එකතු වීමේ, ගැවී සිටීමේ, සම්බන්ධ වීමේ කැමැත්තයි. තණ්හාව, ලෝභකම, ආශාව, උපාදානය ආදී විවිධ නම් වලින්ද ප්‍රකාශ කරන්නේ, මේ රාග ගති ලක්ෂණයම තවදුරටත් මෝරා වැඩි දියුණු වූ අවස්ථාවන්මයි. පටිච්ච වීම සිදුවන්නේ මේ අවස්ථාවේදීය.

රාග නැමැති ගති ලක්ෂණය සෑම පෘථග්ජන සිතකම මොහොතින් මොහොත පහළ වෙන, මතුවන, මොහොතින් මොහොත ගෙවී විනාශ වී යන, නැවත නැවතත් මතුවන විනාශවන ගතියකි. පෘථග්ජන කෙනෙකුගේ සිතක් නිතරම, ස්වභාවයෙන්ම කිළිටි වූ, කහට ගැන්වුණ, කෙළෙස් සහිත තත්ත්වයෙන්ම පවතින නිසා මෙවන් රාග සහගත සිතුවිලි නිරන්තරවම මතුවීම ස්වාභාවිකයි.

"තණ්හාව" නැත්නම් "තෘෂ්ණාව" යන සංස්කෘත වචනයෙන් විග්‍රහ කර පෙන් වූ මෙම ගති ලක්ෂණය රාගය නිසාම හටගත්, රාගයෙහිම මෝරා වැඩී දියුණු වූ අවස්ථාවකි. රාගයෙන් සිත මත්වීම නිසා ප්‍රිය මනාප වූ දෙයට ගැවීමේ, එය සමඟ එකතුවීමේ සම්බන්ධවීමේ අවශ්‍යතාව, කැමැත්ත නිසාම සිත තැනක හා වේ. යම් තැනකට, යම් දෙයකට, යම් කෙනෙකුට, යම් අවස්ථාවකට හා වීම තණ්හාව යනුවෙන් විග්‍රහ වේ. යමක් කෙරෙහි ප්‍රිය බවක්, මනාප බවක් ඇතිවීම නිසා සිත රාගයෙන් මත්වීමේ නියත ප්‍රතිඵලය එතනට එකතුවීම, එය "තණ්හා" වීමයි.

සාමාන්‍ය පුද්ගලයකුගේ සිතක මෙවැනි රාගයක්, තණ්හාවක් ඇතිවීමට මුල්වන මූලිකම හේතුවක් ඇත. මෝහය, මුලාව, අවිද්‍යාව, නොදන්නාකම ආදී විවිධ වචන 23කින්ම විභංගප්‍රකරණයේ විස්තර කළේ මෙයයි. සත්‍යය නොදැනීම, සත්‍යය නොදකීම, මේ හේතුවයි. කුමක්ද මේ මෝහය නැත්නම් නොදන්නාකම? යමක යථාස්වභාවය, ඇත්ත ස්වභාවය, ඇතිවීම නැතිවීම හා විපරිණාමය නැමැති හේතුඵල ක්‍රියාකාරීත්වය පිළිබඳ සත්‍යය තත්ත්වය නොපෙනීම මෝහයයි. එහෙම නැතිනම් "අනිච්ච, දුක්ඛ, අනත්ථ" යන ත්‍රිලක්ඛණය නොදැනීම මෝහයයි. ද්වේෂය යන නමින් හැඳින් වූ දෙවැනි ගති ලක්ෂණය රාගය, තණ්හාව, ලෝභකම ආශ්‍රයෙන්ම සිතක බිහිවන ගති ලක්ෂණයකි. කැමැත්තෙන්ම, ආශාවෙන්ම සිත මත් වී යමකට එකතු වීමේ, සම්බන්ධ වීමේ අවශ්‍යතාවය ඡන්දරාගයයි. මේ ආශා කළ දේ, කැමතිවූ දේ, කැමති වූ පරිදිම, රිසිසේම, තම මනාපය පරිදිම නොලැබෙයි නම් එතැන ගැටීමක් ඇතිවේ. අර මුලින් බිහිවූ රාග ගති ලක්ෂණයම දූන් දෙවනි වේශය, ද්වේෂය ලෙසින් හැඳින්වේ. රාගයක්, තණ්හාවක්, කැමැත්තක් සිතක මුලින්ම පහළ නොවේ නම්, ද්වේෂයක් ඇතිවීමට කිසිම හැකියාවක් නැහැ. තරහ, වෛර, ක්‍රෝධ, ඊර්ෂ්‍යා, පටිස, ව්‍යාපාද වැනි විවිධ නම්වලින් විග්‍රහ කරන ද්වේෂය, රාගයේ, තණ්හාවේම දෙවැනි වේෂයක්ම පමණි.

රාගය, තණ්හාව මෙන්ම ද්වේෂයද සිතක එක දිගටම පවතින ස්ථිර ගති ලක්ෂණයන් නොවේ. චිත්තක්ෂණයක්, චිත්තක්ෂණයක් පාසාම බිහිවෙන, නැතිවෙන, වෙනස්වන ගති ලක්ෂණයන්ය. රාගය සිතක බිහිවීමට හේතුව වූ නොදන්නාකම, අවිද්‍යාව, සත්‍යය නොවැටහීමම සිතක ද්වේෂය ඇතිවීමටත් එකම හේතුවයි. රාගය හා මෝහය එකතු වී ක්‍රියාත්මක වේ. ද්වේෂය හා මෝහය එකතු වී ක්‍රියාත්මක වේ.

මෝහය යනු සත්‍යය නොදන්නාකමයි. මෝහය යනු මුවහ කර තැබීම, වසා තැබීම යන තේරුමයි. මෙසේ මුවහකර වසා ඇත්තේ කුමක්ද? තමාගේම මනසයි. හේතුඵල ක්‍රියාත්මක වන ධර්මතාවයේ යථාස්වභාවය, සත්‍යය ස්වභාවය මනසට දැකගන්නට නොහැකි ලෙස මුවා කර වසා ඇති බවයි. සාමාන්‍ය පෘථග්ජන පුද්ගලයෙකුගේ සිතට මේ හේතුඵල ක්‍රියාකාරිත්වයේ ධර්මතාව යථාපරිදි නොපෙනෙයි. ඒ නොපෙනෙන්නේ රාග, ද්වේෂ වැනි කිළිටි අඳුරු ගතිවලින්, ප්‍රිය මනාප මධුර දේවලින් මත් වී පැවැත්මේ සත්‍යය වැසී ඇති හෙයිනි.

ඒ නිසාම "මෝහය" යන වචනය තනි වචනයක් ලෙසින් භාවිත කිරීමෙහිද කිසිම තේරුමක් නැත. නිතරම යම් දෙයක් සම්බන්ධව කරන ප්‍රකාශයකදීම පමණක් භාවිත කළ

හැකි වචනයකි. මේ ආකාරයෙන්ම "සත්‍යය" යන වචනයද අර්ථයක් ඇති තේරුමක් ඇති ප්‍රකාශයක් සේ භාවිත කළ හැක්කේ යමක් සම්බන්ධ කර කරුණු ලබන ප්‍රකාශයකදීම පමණි.

සියලු ලෝක සත්ත්වයා දිගින් දිගටම යළි යළිත් උපතක් ලැබීමට, ජීවත්වීමට, දුක් විඳීමට, මරණයට පත් වීමට එකම හේතුව යමක යථාස්වභාවය, සත්‍යය නොදන්නාකමයි. එය මෝහයයි. මෝහය නිසාම රාගයෙන්, තණ්හාවෙන්, ඡන්දරාගයෙන් මත්වී යමකට එකතු වෙයි, සම්බන්ධ වෙයි. මෝහය නිසා, නොදන්නාකම නිසා තැනකට භාවී හේතු උත්පාදනය කරයි. ඵල විපාක උරුම කරගනී.

මුළු බුද්ධ ධර්මයේම විග්‍රහ කර, විවරණය කර පෙන්වා දෙන්නට උත්සාහ කරන්නේ මේ පැවැත්ම ලෙසින් ගෙනහැර දක් වූ හේතුඵල පරම්පරාවන් උපත ලබන ආකාරය පිළිබඳව සත්‍යය ධර්මතාව පෙන්වීමයි. රාගයෙන්, තණ්හාවෙන් මිදී මෝහයෙන් වෙන්විය හැක්කේ හේතුඵල ක්‍රියාත්මක වීමේ සත්‍යය ධර්මතාව මනා ලෙස වටහා ගැනීමෙන් ම පමණි. බුද්ධ ධර්මය යනු භව උදුරා දැමීමයි. බුද්ධ යනු මේ හේතුඵල ධර්මතාව ක්‍රියාත්මක වන ආකාරය පිළිබඳ පූර්ණ සත්‍යය විද්‍යාත්මක ලෙසින් ගෙනහැර දක්වූ භව උදුරා දැමූ උත්තමයායි. චතු අරිය සත්‍යය සොයා දුන විග්‍රහකර ඉදිරිපත් කිරීම බුදුපියාණන්වහන්සේ කළ වැදගත්ම හේතුඵල විග්‍රහයයි. එය පටිච්චසමුප්පාද ධර්මයයි.

## නිවන පිළිබඳ අනුමාන ඥාණය ලබා ගත හැක්කේ කෙසේද?

බුදුන්වහන්සේ ස්වයංභූ ඥාණයෙන්ම අවබෝධ කරගත් විමුක්ති මාර්ගය, භව නසන මාර්ගය (බණ) තම මුළු ජීවිත කාලය තුළම අනන්ත අප්‍රමාණ දෙව් මිනිසුන්ට නිවනට මඟ පෙන්වා දීම සඳහාම දේශණා කළහ. බුදුපියාණන් වහන්සේගේ පිරිණිවීමෙන් පසුව මඟඵල ලැබූ අරිය උත්තමයින් වහන්සේලාද මේ නිවන් මාර්ගය දේශණා කර පරම්පරා ගණනාවක් නොනැසෙන ලෙස නිවන් මඟ ආරක්ෂාකර දේශණා කරමින් පවත්වාගෙන ආහ. අරිය උත්තමයන් වහන්සේලාගේ විශේෂයෙන්ම සිවුපිළිසිඹියාපත් ලැබූ අරහතුන් වහන්සේලාගේ පහළවීම නැවතීමත් සමඟම මේ භව නසන, භව නිරෝධ කරන මඟ කියා පැහැදිළි කර දීමට සමත් කෙනෙකු නැති විය. ඒ ධර්මයම ඒ වචනම යොදා ගෙන පසු කාලයේ භව හදන ජීවන මාර්ගයක් සකස් කර ගන්නට උපකාර වන ආගමක් ලෙස බුද්ධ ධර්මය තේරුම් කර දීමට යාම නිසා නිවන් මඟ වැසී යටපත් විය.

නිවන් දැකීම යනු කුමක්දැයි තවත් කෙනෙකුට නිවැරදිව ප්‍රකාශ කළ හැක්කේ, සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරහත් යන මඟඵල අවබෝධ කරගත් අරිය උත්තමයෙකුට පමණි. මෙවැනි මඟඵල ලැබූ අරිය උත්තමයෙකුගේ කටහඬ, දේශණා කරන ධර්මය තවත් කෙනෙකුට සෝතාපන්න වීමට පිහිට වේ. සෝතාපන්න යන වචනයෙහිම මේ අරුත ඇත. "සෝත" යනු ශ්‍රවණයයි. "ආපන්න" යනු මඟට පිවිසීමට උපකාරක බවයි. එසේ නම් සෝතාපන්න යන පදයෙහි තේරුම කඩහඬ අසා, ධර්මය ශ්‍රවණය කර, නිවන් මඟට පත්වීම යනුයි. සුතමයේ ඥාණය ලැබීමයි.

මෙය "පරතෝඝෝෂක ප්‍රත්‍ය" යනුවෙන් හඳුන්වයි. ශ්‍රවණය හා ඇසීම යනු එකක් ම නොවේ. ශබ්දය ඇසීම, කියන වචන, කටහඬ ඇසීම එකකි. යමක් අසන්නේ හෝ ඇසෙන්නේ හෝ උත්සාහයක් නැතිවමය. ශ්‍රවණය යනු අවධානයෙන් යුතුව කියන වචන, කියන දේ, කියන විලාසය, අර්ථය, සුන්දර බව නිවැරදිව අවබෝධ කරගෙන ධාරණය කර ගැනීමයි. පරතෝඝෝෂක ප්‍රත්‍ය ලැබෙන්නේ ධර්මය ශ්‍රවණය කිරීමෙනි. බුදුපියාණන් වහන්සේ සිරි මුඛයෙන් දේශණා කළ ධර්මය ශ්‍රවණය කිරීමෙන්ම සියලු ශ්‍රාවකයින් වහන්සේලාටද මඟඵල ලැබිණි. සෝතාපන්න විය. ඒ අරහතුන්වහන්සේලාද තම ශ්‍රාවකයින්ට දේශණා කළ ධර්මය ශ්‍රවණය කිරීමෙන් පරපුරෙන් පරපුරට මේ සෝතාපන්න වූ බව පවත්වා ගෙන ආහ. ක්‍රමයෙන් මඟ ඵල ලැබූ උත්තමයින් වහන්සේලාගෙන් ලෝකය හිස්වෙත්ම මෙසේ මේ සෝතාපන්න වීමට උපකාරක කටහඬ, ධර්මය ශ්‍රවණය කරන්නට නොලැබීම නිසා මඟඵල ලැබූ උත්තමයින්ගේ පරම්පරාව අවසාන විය.

සෝතාපන්නයෙකු වීමට අවශ්‍ය පළමුවැනිම සාධකය පරතෝඝෝෂක ප්‍රත්‍ය ලබා ගැනීමයි. තවත් පෘථග්ජන මිනිසෙකුට මේ ලබා දීම කළ හැක්කේ අඩුම වශයෙන් සෝතාපන්න තත්ත්වයට හෝ පත් වූ අරිය උත්තමයෙකුට පමණි. බුදුපියාණන් වැඩසිටි කාලයේදී, අරහතුන් වැඩසිටි කාලවලදී, ඒ අරහතුන්වහන්සේලාගේ කටහඬින් දේශණා කළ ධර්මය ශ්‍රවණය කර, පරතෝඝෝෂක ප්‍රත්‍ය ලැබ, සෝතාපන්න වූ උත්තමයින් නැවත මිනිස් ජාතියක උපන්නොත්, ඒ උත්තමයින් "ජාත සෝතාපන්න" යනුවෙන් හඳුන්වති. මෙවැනි උත්තමයින් අදද අප අතරම සිටිති. අප අතරම ජීවත් වූවත් ඒ අය වෙන්කර හඳුනා ගැනීම නම් තරමක් අපහසුය.

කෙසේ වුවත් එවැනි උතුමන් අවබෝධ කරගත් නිවන් මාර්ගඵල හා ධර්ම ඥාණයත් දියුණු කරගෙන තවත් අයටද ධර්මය පැහැදිළි කර දීමට හැකියාව, ශක්තිය ඇත්නම් ඒ කටහඬ අසා, ධර්මය අසා අදද පරතෝඝෝෂක ප්‍රත්‍ය ලබා සෝතාපන්න විය හැකිය. මෙය අනුමාණ ඥාණයෙන් නිවන් දැකීමයි.

ස්වඋත්සාහයෙන්ම, ස්වයංභූ ඥාණයෙන්ම බාහිර කෙනෙකුගේ උපකාරයෙන් තොරව මඟඵල ලබා නිවන් අවබෝධ කර ගත හැක්කේ, බුදුවීමට පෙරුම් පුරණ බෝසත් උත්තමයෙකුට බුදුවන අත්බවේදී හා පසේ බුදුවරයෙකුට පසේ බුදුවන අත්බවේදීම පමණි. වෙනත් දෙවියෙකුට, මිනිසෙකුට හෝ බ්‍රහ්මයෙකුට පරතෝඝෝෂක ප්‍රත්‍ය නොලබා ස්වඋත්සාහයෙන්ම නිවන් මඟඵල ලැබිය නොහැකිය.

කවුරුන් කෙසේ විස්තර කළත් සත්‍යය මෙයයි. "භාවනා කර විදර්ශනා වඩා උත්සාහයෙන් වීර්යයෙන් නිවන් දකිමියි" කියා වසර සියයක් උත්සාහ කළත් ආත්ම ගණනක් උත්සාහ කළත්, මඟඵල ලැබූ උත්තමයෙකු හමු වී, ඒ කට හඬින් බණ ඇසීමෙන් ලැබූ පරතෝඝෝෂක ප්‍රත්‍යයෙන්, කළ්‍යාණ මිත්‍ර සම්පත්තියෙන් මිස වෙන අයුරකින් මඟඵල ලැබිය නොහැකිමය. අනරිය ධ්‍යාන නම් ලැබිය හැකිමය. මෙසේ වීර්යයෙන් උත්සාහ කර, භාවනා කර, සිල් රැක කරන පින් දහම් අපතේ යන දෙයක් නොවේ. භාවනා කිරීම නිසා සමාධියත් ධ්‍යානයත් ලැබෙන නිසා මතු සුගතියකම උපත ලැබීමට වාසනාව ලැබෙයි. කවදා හෝ අරිය උත්තමයෙකුගේ කට හඬෙන් බණ (බව නසන මඟ) අසන්නට

ලැබෙන මොහොතේම ඒ අය මඟඵල ලබන්නට හේතු සම්පත් ලබන්නේය.

මාර්ග ඵලයට පත්වූ කෙනෙකු මතු කිසි කලෙක නිවන් දක්නා ජාති දක්වා සතර අපායක උප්පත්තියක් නොලබයි. සසර දුකින් මිදුනා වෙයි. සෝවාන් මඟඵලලාභියෙකු දෙව් ලොව, මිනිස් ලොව හෝ උපත ලබා කෙත් සතක් පසුකර නිවන් දකී. කොතරම් ඉහළ අනරිය ධ්‍යානයක් හෝ ලැබුවකු වූවත් මඟඵල නොලැබූයේ නම් දෙව් ලොව, බ්‍රහ්ම ලෝක වල උපත ලබා කළ පින්වල ශක්තිය අවසානයේ යළි සතර අපායක වුවද මතු ඉපදීමට ඉඩ ඇත.

කළ පින් නිසා සැපම විඳින්නට ගියහොත් සැපට ලොබ වුවොත් රාග, ද්වේෂ, මෝහවලට යළිත් බැඳෙන නිසා, දුගතියට පත්වීම වැළැක්විය නොහැකිය. මේ කරුණු අනුව පැහැදිළි වන්නේ, මඟඵල ලබා සසර දුකින් සදහටම මිදෙන්නට නම් "පරතෝඝෝෂක ප්‍රත්‍ය" ලබා ගැනීම පළමුවන අවශ්‍යතාව බවයි.

අනුමාන ඥාණයෙන් නිවන් දැකීමට අවශ්‍යයෙන්ම පූර්ණ කළයුතු දෙවන කාරණය නම් කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය ලැබීමයි. කළ්‍යාණ මිත්‍රයෙකු යනු කිසිඳු ලාභයක්, ප්‍රයෝජනයක්, කීර්තියක්, ප්‍රශංසාවක් හෝ ප්‍රතිලාභයක් කිසිම අයුරකින් බලාපොරොත්තු නොවී, තම කාලයත්, ශ්‍රමයත්, සම්පතුත් අනුන් වෙනුවෙන්ම වැය කරමින් හුදෙක් පරෝපකාරයම, පරාර්ථය සඳහා දුකෙන් තැවෙන හුදී ජනයා කෙරෙහි ඇති වූ අනුකම්පාවෙන් ම තමන් අවබෝධ කරගත් ධර්මය, කළු ධර්මයන් නසන මඟ, නිවන් මඟ වෙනත් කෙනෙකුට පැහැදිළි කර දෙන උත්තමයාය. කරුණාව, මෙත්තාව මුල් කර ගෙන, අවංකව පරම පවිත්‍ර චේතනාවෙන්, කෙළෙස් නසන මඟ (බණ) දේශණා කරන උත්තමයා අඩු තරමින් සෝවාන් මාර්ග ඵලයවත් ලබා සිටිය යුතුය.

මෙයින් පැහැදිළි වන්නේ පෙර කළ පින් ඇත්නම්, උත්සාහය වීර්යය නොඅඩුව පවත්වන්නේ නම්, නිවන් දැකීමට, මඟඵල ලැබීමට අදද කිසි බාධකයක් නැති බවයි. ගිහි වුවත් පැවිදි වුවත් අරිය නොවූ පෘථග්ජන පුද්ගලයෙකුට, කළ්‍යාණ මිත්‍ර සම්පත්තියත්, පරතෝඝෝෂක ප්‍රත්‍යයත් ලැබෙන තුරාවට මඟඵල ලැබිය නොහැකිය. දෙවිවූවන්ටත්, බ්‍රහ්මවූවන්ටත්, මිනිසුන්ටත් කවදා හෝ අරිය උත්තමයෙකුගෙන් බණ අසන්නට ලැබී, ඒ කට හඬින් පරතෝඝෝෂක ප්‍රත්‍යයත්, කළ්‍යාණ මිත්‍ර සම්පත්තියත්, සම්මා දිට්ටියත් ලැබුණහොත්, ඒ හේතුකොට ගෙන අනුමාන ඥාණයෙන් නිවන් දැකිය හැකිය. පූර්ව භාග නුවණ පහළ වේ. ගඟක් මුහුද කරාම ගලාගෙන යන්නා සේ එතැන් පටන් නිවන පූර්ණය වන තුරු ධර්මතාවයෙන් ධර්මතාවයෙහිම පිහිටා කටයුතු කිරීම එවැනි උත්තමයින්ගේ නියත ලක්ෂණයකි.

බුදුපියාණන්වහන්සේ දේශණා කළ පරිදි සබ්බාසව සූත්‍රයේ "දස්සනේන පහාතබ්බා'', "භාවනාය පහාතබ්බා", "සංවරේන පහාතබ්බා" යැයි අවස්ථා හතකදී නිවන පූර්ණය වන බව පෙන්වා දී ඇත. මෙහි විස්තර කළ "දස්සනේන පහාතබ්බා" යනු අනුමාණ ඥාණයෙන් නිවන් දැකීම හෙවත් පූර්ව භාග නුවණ පහළ වීමයි. සෝවාන් මඟ ඵල ලැබීම දක්වා ගමනයි. "සං" දැක, ''සං'' වලින් මිදී නිදහස් වන ආකාරය දැකීමයි.

අද නිවන් දැකිය නොහැකිය. නිවන් මඟ වැසී ඇත. මතු බුදුවන මෛත්‍රී බුදුන් බුදුවන තුරු ඒ සඳහා බලා සිටිය යුතු යැයි වැරදි අදහස් දරන්නේ අනවබෝධය නිසාමය. මිනිසෙකුව උපන් සියලු දෙනාටම මේ අවස්ථාව සහ ආයු, සැප, බල, වර්ණ, ප්‍රඥා ආදී සියලු සම්පත්ද ලැබී ඇති බව නුවණින් දැන, මේ බුද්ධෝත්පාද කාලයක් බවද සිහිපත් කර, පරතෝඝෝෂක ප්‍රත්‍ය හා කළ්‍යාණ මිත්‍ර සම්පත්තියද ලබාගෙන, "බව" නසන මඟද (බණ) අසා දැන ගත හැකි අරිය උත්තමයින් දැන හඳුනා ගෙන, නිවන් දැක ගැනීමට මඟ පාදා ගනිත්වා.

"මඟ නොදැන, මඟ නොදැක අතරමං නොවෙත්වා."

### අද නිවන් දැකිය නොහැකිද? නිවන් මඟ වැසුණේ කෙසේද?

බුදුපියාණන්වහන්සේ ස්වයංභූ ඥාණයෙන්ම, ස්වඋත්සාහයෙන්ම සොයා දැන, විවරණය කර, විග්‍රහ කර, පනවා වදාළ පරම පවිත්‍ර සිරි සද්ධර්මය දේශණා කළේ, අනන්ත අප්‍රමාණ කාලයක් සංසාර සාගරයේ අතරමංව දුක් විඳින ලෝක සත්ත්වයාට එම දුකින් මිදීමේ විමුක්ති මාර්ගය පෙන්වා දීමේ එකම පරමාර්ථයෙනි.

"ආචික්ඛනා දේසණා පඤ්ඤපනා, පට්ඨපනා විවරණා විභජනා උත්තානිකම්මංති" යනුවෙන් සච්ච විභංග සූත්‍රයෙහි පැහැදිළි කළේ මෙයයි.

ඒ බුද්ධ වචන, පෙළ දහම උත්තරීතර වන නිසාම ත්‍රිපිටක ධර්මය ලෙසින් අද දක්වාම නොනැසී පවතී. පසුකාලීනව නිර්මල බුද්ධ දේශණාවට අටුවා ටීකා ලිවීම නිසාත්, විවිධ භාෂාවන්ට බුද්ධ ධර්මය පරිවර්තනය කිරීමේදීත්, ආචාර්ය මත, ආචාර්යවාද එකතු විය. නිකාය භේද ඇති වීම නිසා ඒ ඒ නිකායවල මතවාදවලට ගැළපෙන ලෙස ධර්ම අර්ථයන් විකෘත කළහ. පසුකාලීන ව හින්දු, ශිව, ජෛන ආදී විවිධ ආගමික සංකල්ප හා ලෞකික මතද බුද්ධාගමට එකතු විය. පෙළ දහමෙන් පෙන්වා වදාළ පිරිසිදු නිවන් මඟ, නිවැරැදි නිවන් මඟ විකෘත වී අපැහැදිළි තත්ත්වයට පත්වීම මෙහි ප්‍රතිඵලයයි.

ලෞකිකත්වයට ඇලුම් කළ පෘථග්ජන ලෝකයාට ගැළපෙන සේ නිර්මල බුද්ධ ධර්මය වෙනස් අර්ථයකින් අර්ථ දක්වා ආගමක් බවට පත් කර ගැනීම මෙහි ප්‍රතිඵලය විය. අද ප්‍රචලිතව, ජනප්‍රියව පවතින බුද්ධාගම, නැති නම් බුද්ධ ශාසනය, එසේ පසුකාලීන ව සාදා සකස් කර ගත් එකකි. නිවන් දකින පරම පවිත්‍ර ධර්මය තවත් එකකි. මේ දෙකෙහි වෙනස දැන හඳුනා ගැනීමත් නිවන් අවබෝධ කර ගැනීමට උපකාර වන පිරිසිදු බුද්ධ ධර්මය තෝරා බේරා ගෙන ඒ මඟ අනුගමනය කිරීමත් පමණක් බෞද්ධයෙකුගේ එකම පරමාර්ථය වූ නිවන් අවබෝධ කර ගැනීමට උපකාරකය.

බුදුපියාණන් දේශණා කර වදාළ පිරිසිදු නිවන් මාර්ගය පසුගිය වසර 2550ක් තරම් කාල පරාසයක් තුළ විවිධ වෙනස්කම්වලට, විකෘත කිරීම්වලට භාජනය වීමට බලපෑ ප්‍රධාන කරුණු කිහිපයක් ඇත. මේ අතරින් ප්‍රධාන කොටම පෙන්වා දිය හැකි කරුණු

වන්නේ, බුද්ධ ධර්මය දේශණා කරන දේශකයින් මෙන් ම, බුද්ධ ධර්මය පොත පතෙහි ලියා පළ කරන සියලු දෙනා ද දැනගත යුතු, අනුගමනය කළ යුතු වැදගත් කරුණු පිළිබඳව මනා වැටහීමක් නැති වීමයි. ධර්මය ශ්‍රවණය කරන්නන්, ධර්මය හදාරන්නන් මෙන්ම ධර්මය අනුගමනය කරන්නන්ද, ධම්මානුධම්ම පටිපදාවම අනුගමනය කරන්නේ නම් මඟ වැරදෙනු නොහැක.

ඕනෑම කෙනෙකුට තමන් කැමති දේ කිරීමටත්, ලියා තැබීමටත් නිදහස ඇත. නමුත් ධර්මය හදාරන, නිවන් මඟ සොයන දායක කාරක ආදීන් ඒ කියූ ලියූ දේ ඒ අයුරින්ම ගැනීම, සොයා නොබලා නියම මඟ යැයි ගෙන කටයුතු කිරීම ධර්මානුකූල නොවේ. ගුරු පරපුරෙන් පවත්වා ගෙන ආ පළියට හෝ උගතෙකු, පඬිවරයෙකු යැයි ජනප්‍රියත්වයට පත් වූ කෙනෙකු තර්ක ගෙනහැර පා ධර්මය අධර්මය කර පෙන්වා දුන් පළියට ඒවා ඒ අයුරින්ම ගැනීම බුද්ධියට නොගැළපෙන ක්‍රියාවකි. බුදුපියාණන්ම මේ බව කිහිප අවස්ථාවකදීම පැහැදිළිව ප්‍රකාශ කර ඇත.

බුදුපියාණන් දේශණා කර වදාළ නිවන් මඟ මතු අනාගතයේදී වෙනස් වන බව, වෙනස් කර විකෘත කරන බව, ලෞකිකත්වයට ගැළපෙන ලෙස හැඩ ගසන බව බුදුපියාණන්ම ඒ කාලයේදීම දැක තිබුණි. ඒ හේතුව නිසාම මහා ප්‍රජාපතී ගෝතමියට දේශණා කළ "ගෝතමී සූත්‍රයේ" එවැනි වෙනස් කිරීම් විකෘත කිරීම් දැන හඳුනා ගැනීමටත්, ඒවා නිවැරදි කර ගැනීමටත් අනුගමනය කළ යුතු ක්‍රියාමාර්ග පැහැදිළිව පෙන්වා දුන්හ. කල් ඇතිවම බුදුපියාණන් මෙවැනි පියවර ගත්තේ, මතු කාලයේ දී සිදු විය හැකි විකෘත කිරීම්, නොගැළපීම් සිදුවන බව කල් තබාම දුටු නිසාම ය.

මල් පහන් පිදීම, වන්දනා මාන කිරීම, දාන මාන ආදිය පිළිගැන්වීම, ප්‍රතිමා චෛත්‍ය බැඳීම, පන්සිල්, අටසිල්, දස සිල් ගැනීම ආදී පින්කම් කිරීමෙන් පමණක් නිවන් දැකිය හැකි යැයි, බොහෝමයක් බෞද්ධයා සිතතත්, නිවන් දැකීම ඊට වඩා බොහෝ ගැඹුරු කටයුත්තකි.

බුදුපියාණන් මතුකර පෙන්වා වදාළ නිවන් මඟ භක්තියෙන් ඇදහිය යුතු ඇදහිලි මාර්ගයක් නම් නොවේ. පුද පූජා ක්‍රමයක්ද නොවේ. එය අර්ථවත් ජීවන මඟක්ද නොවේ. ආගම යන තේරුමෙන් එය ආගමක්ද නොවේ. බුද්ධ ධර්මය යනු අනන්ත සංසාරයේ අතරමං වී දුක් විඳින මුළා වූ සත්ත්වයා සංසාර දුකින් මුදවා ගැනීම එකම පරමාර්ථය කොට ගෙන ඉදිරිපත් කළ සත්‍යය ගෙනහැර දැක්වීමකි. විමුක්ති මාර්ගයකි. අර්ථවත් ජීවන මාර්ගයක් ඉදිරිපත් කිරීම පමණක් පරමාර්ථය වී නම් බෝසත් තුමා රජ සැප හැර පියා වන වැදීම නොකරනු ඇත. මේ සත්‍යය වටහා නොගෙන, ධර්මය විකෘති කර, අර්ථවත් ජීවන මාර්ගයක් ඉදිරිපත් කළ බව පෙන්වීමට සමහරුන් ගන්නා උත්සාහයන් නිසා නිවන් මඟ වැසී ගියේය. හොඳ, යහපත්, අර්ථවත්, නිවැරදි දැක්මක් සහිත ජීවන මාර්ගයක් පිළිබඳව උගැන්වීම අද බුද්ධාගමේ පරමාර්ථය වී ඇත්තේ මේ නිසාය. මෙය සුගතියක ඉපදීමට උපකාරක විය හැකි වුවත් රාග, ද්වේෂ, මෝහ කපා දමා දුරු කිරීමට උපකාර නොවන නිසා නිවන් මඟ වැසී ගියේය. බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාළ නිවන් මඟ මෙලොව සුගතිය මෙන්ම සදාකාලිකවම දුකින් මිදීමද අරමුණු කොට ගත් ලෝකෝත්තර ධර්මයකි.

උපතක් ලැබූ සෑම ජීවියෙකුම උපතේ සිට මරණය දක්වාම එකලොස් ගින්නකින් තැවෙයි. අනන්ත අප්‍රමාණ මානසික දුක් පීඩාවලින් අසහනයට පත් වේ. මරණ භය, සියලුම සත්ත්වයින්ට වඩාත්ම බරපතලම දුකයි. කුමන ආකාරයකින් සුඛිත මුදිත වූ සර්ව සම්පූර්ණ ජීවන මාර්ගයක් තිබුණත් එයින් මානසික, කායික ලෙඩ රෝග, දුක්, මරණය වැළැක්විය නොහැකිය.

බුද්ධ දේශණාවෙන් ඉදිරිපත් කළේ අනන්ත අප්‍රමාණ දුක් විඳින සත්ත්වයාට, සදහටම දුකින් මිදී විමුක්තිය ලබාගත හැකි මාර්ගයකි. ඒ බුද්ධියෙන්ම දැරිය යුතු, තේරුම් ගත යුතු අවබෝධයෙන් ක්‍රියාත්මක කළ යුතු සත්‍යය ධර්මයයි.

සිතින්ම කල්පනා කර, සිතම උපකාර කර ගෙන, සිතෙහිම උපදින්නා වූ අයහපත් කෙළෙස් සහිත වූ ශක්ති විශේෂයක් ඉපැදවීම නතර කර, සිතම නිරෝධ කර, තමාට සංසාර ගමන යාමට මෙතෙක් උපකාරී වූ පංචස්කන්ධ උපාදානයෙන්ම මිදී, විමුක්තිය සොයා ගත යුතු දහමකි. වෙනත් කෙනෙකුට ඔබව නිවන් දැක්විය නොහැකිය. බුදුන් වහන්සේලා දහසකගෙන් බණ ඇසුවත්, තම සිතින් දහම නොගත්තේ නම් නිවන් දැකිය නොහැකිය. දහම් අසා තමාගේම සිත පිරිසිදු කරගත යුතුය.

මරණයෙන් පසු නැවත මිනිස් ජාතියකම හෝ සුගතියකම හෝ උපදිතියි යනුවෙන් කිසිවෙකුට සහතිකයක් ලබා දිය නොහැකිය. මේ විශ්වය තුළ බිහිවී, ජීවත් වන සත්ත්ව කොට්ඨාස අතරින්, මිනිසුන් ලෙස අද උපත ලබා ඇත්තේ, කෝටි ප්‍රකෝටි ගණනකින් එක් කෙනෙකි. අපට පෙනෙන තිරිසන් ලෝකය තුළම (මුහුදේ හා ගොඩබිම) මිනිසුන් මෙන් කෝටි ප්‍රකෝටි ගණනකින් සත්ත්වයින් වාසය කරති. අපට නොපෙනෙන ලෝකයෙහිද අමනුස්සයින්, ප්‍රේතයින්, භූතයින්, දෙවියන්, බ්‍රහ්මයින් ලෙස මේ හා සමාන ප්‍රමාණයක් උපත ලබා ඇත. එසේ නම් නැවත උපතක් ලැබීමේදී මිනිසෙකුම වී උපත ලැබීමට හැකිවේ යැයි කාට නම් සහතික විය හැකිද? එසේ නොමිනිසුන් ලෙසින් ලැබූ උපතකදී ලබන දුක් ප්‍රමාණය මිනිසෙකුව ලබන දුක් ප්‍රමාණය මෙන් කිහිප ගුණයකි. අපාගතව දුක් විඳින සතුන් විඳින දුක් ප්‍රමාණය කෙනෙකුට සිතා ගත නොහැකි තරම්ය.

බුදුපියාණන් පෙන්වා වදාළ නිවන් මග මිනිසුන් ලෙස උපත ලැබූ සියල්ලටම පහසුවෙන් තේරුම් ගෙන, අවබෝධ කරගෙන, ක්‍රියාත්මක කළ හැකි එකකි. සදාකාලිකවම දුක් විඳින ලෝක සත්ත්වයාට සදහටම දුකින් මිදී, සාරයි කියා යන මේ සංසාර ගමන නිමා කිරීමට පෙන්වා දුන් එකම ධර්ම මාර්ගය, බුද්ධ ධර්මයයි.

අද නිවන් මග වැසී ගිය පසු හෝ හිතා මතාම වසා දැමූ පසුව හෝ බුද්ධ ධර්මයේ පෙන්වා දුන් උසස්ම ධර්ම කරුණු ලෞකික අර්ථයෙන් විග්‍රහ කර ගෙන අර්ථවත් ජීවන මාර්ගයක් පෙන්වන ආගමක් ලෙසින්ද විග්‍රහ කර, සාධාරණීකරණය කිරීමත්, එයම ජීවන මාර්ගය කරගත් පිරිසක් බිහි වීමත් ප්‍රතිඵලය වී ඇත.

මෙයට හේතුව නිවන් දැකීම සඳහා අනුගමනය කළ යුතු සරල වැඩපිළිවෙළ ලියැවුණු පොතක් පතක් අද දක්නට නැති වීමත්, එසේ පෙර කළ ලියා තැබුවා යැයි

විශ්වාස කරන "හෙළ අටුවා" පොත් සියල්ල හිතා මතාම විනාශ කර දැමීමත්ය.

කුමන භාවනාවකින් හෝ කර්මස්ථානයකින් හෝ බලාපොරොත්තු විය යුත්තේ සියලු අවිද්‍යා සංඛාර, අවිද්‍යා විඤ්ඤාණ නිරෝධ කර, "සං" එකතු කරන උල්පත් වසා දමා, රාග, ද්වේෂ, මෝහ සහගත කෙළෙස්, සිතින් නිපදවන චිත්ත ශක්තීන් (හේතුන්) නිපදවීම සහමුළින් නැවැත්වීමත්, ඊටම උපකාර වන රාග, ද්වේෂ, මෝහ වැනි පහත් කුණු සහගත ඡන්දරාගය සළාහැරීමත් (ප්‍රහාණය කිරීමත්) මගින් මතු උපතට හේතුවන ශක්ති බිහි කිරීම නවතා දැමීමයි. එය භව නිරෝධයයි.

හේතු නැති තැන ඵලවිපාකද නැත. හේතු (චිත්ත ශක්ති) අලුතින් බිහි කරන තාක් ඵල විපාක ඇත. බුද්ධිය මෙහෙයවා සත්‍යය අවබෝධ කරගෙන අවිද්‍යා විඤ්ඤාණ නිරෝධ කර, කුසල් පුරා ගැනීමෙන් (පහත් කුණු වැනි දේ සළා හැරීමෙන්) පමණක් කෙනෙකුට මෙලොවදීම නිවන් දැකිය හැකිය. කුසලයම ඊට උපකාරී වේ යනු බුද්ධ දේශණාවයි. පින්කම් කළ යුතුමය. එය සුගතියකට මිනිස් උපතකට උපකාරී වේ. මිනිස් ජාතියක උපත ලැබීමෙන්ම කුසල් පුරා නිවන් මඟට අවතීර්ණ විය හැකි වෙයි. මේ නිසා පින්, නිවන් මඟට අවශ්‍ය මුට්ටිකාසි මෙනි. මඟ වියදමට මුදල් නැති කළ මේ ගමන ගමනාන්තය තෙක් ගමන් කළ නොහැකිය. සුව, අසුව දහසක් ධර්ම කාණ්ඩ ඉගෙන ගැනීම, පණ්ඩිතයෙකු උගතෙකු ලෙස තර්ක ඉදිරිපත් කිරීමට, මුදල් උපයා සැප සම්පත් ලබා, සංසාර ගමන දික් කර ගැනීමට පමණක් උපකාර කරගත හැකිය. "බව" යහපත් තැනක් කිරීමට, බව හදා ගැනීමට, බෙදා ගැනීමට හෝ බදා ගැනීමට කටයුතු කිරීම නිවන නොවේ. භව උදුරා දැමීමම නිවනයි.

නිවන් දැකීම යනු මේ සංසාර පැවැත්මෙන් මිදීමයි. ලෝකයෙන් මිදීමයි. මිදිය යුතු ලෝකය කුමක්ද යන්නත්, යායුතු නිවන කුමක්ද යන්නත් දැනගත යුතුය. යායුතු තැන පිළිබඳව අනුමාණ ඥාණයෙන් දැක අදහසක් ඇතිකර ගත යුතුය. එය පූර්ව භාග නුවණයි. එවැනි අනුමාණ ඥාණයක් නොලැබ වැටහීමක් නැතිව ගමන ඇරඹීම උසක් නොදැක, නොදැන ඉණිමං බැඳ අතරමං වීම වැනි ක්‍රියාවකි. මුළින්ම ලෝකය කුමක් දැයි දැනගත යුතුයි. වරක් ආනන්ද හිමි ලෝකය විග්‍රහ කළ ආකාරය මෙහිදී අපටද ප්‍රයෝජනවත් වේ.

"ලෝකය" යනු ඇස, ඇසට පෙනෙන දේ, කන, කනට ඇසන දේ, නාසය, නාසයට දැනෙන ගඳ සුවඳ, දිව, දිවට දැනෙන රස, කය, කයට දැනෙන පහස හා මනසට දැනෙන අරමුණු (ධම්ම) යයි වදාළ සේක.

කුමන ආකාරයකින් තර්ක කර විමසා බැලුවත් මීට වැඩි හෝ අඩු ලෝකයක් නැත. මේ සඳහන් කළ දේවල් කෙස් ගහක ප්‍රමාණයක් හෝ අඩු කළ හොත් එතැන පූර්ණ ලෝකයක් නැත. මීට වැඩි කිසිවක් එකතු කිරීමටද ලෝකයේ ඉතිරිව නැත.

සියලු දුක් උපදින ඇති වන තැනද මෙතනමය. එසේ නම් මුළු උපාදාන පංචස්කන්ධයම දුකකි. සම්පූර්ණ තුන් ලෝකයම ඇත්තේ අප තුළමය. නිවන් දැකීම යනු තම තමන්ම අල්ලා ගෙන, උපාදානය කරගෙන පවත්වා ගන්නට වෙර දරණ මේ

ලෝකයෙන් මිදීමයි. මේ ලෝකයෙන් මිදීමට, පංචස්කන්ධයෙන් මිදීමට, එය විඳින දුක නැති කිරීමට උපයෝගි කර ගත හැකි, උපකාර කරගත යුතු එකම දෙයත් මේ පංචස්කන්ධයමයි. වෙන කිසිදෙයක උපකාරයෙන්, වෙනත් කිසිම ආකාරයකින් දුක නැති කර නිවන් දැකිය නොහැකිය. එලෙසින්ම මේ පවතින ලෝකය තුළද නිවනක් නැත. නිවනෙහි ලෝකයක්ද නැත.

අපට මේ පවතින බාහිර ලෝකය නැති කළ නොහැකිය. නැති කළ යුත්තේ සංසාරයි කියා අපි හදා ගත් අපිම උපාදානය කරගත් ලෝකයයි. මේ අපි බිහි කර ගත් ලෝකයේ කොටසක් (යම් යම් දේ ) මේ සංසාර ගමන, ලෝකය පවත්වා ගැනීමට උපකාර වන අතර, මෙහිම තවත් කොටසක් සංසාර ගමන නිමාකර නිවන් දැකීමට උපකාර කර ගත යුතුය.

දිව්‍ය, බ්‍රහ්ම, මනුස්ස, අමනුස්ස යන කොටස්වලින් සමන්විත මේ පැවැත්මෙහි උතුම් වූ මිනිසත් බවක් ලැබූ අප, මිනිසත් බවක උපන් මේ අවස්ථාවේම නිවන් අවබෝධ කරගත යුතුය. දෙවියෙකු, බ්‍රහ්මයෙකු, අමනුස්සයෙකුව උපන් කෙනෙකුට වඩා මිනිසෙකුව උපන් කෙනෙකුට තම මනස උපකාර කරගෙන සම්‍යක්ප්‍රයෝග, උපක්‍රම හා ප්‍රතිකර්ම දැන ඒ අනුව ක්‍රියා කරමින් නිවන් දැකීම මේ උපතේදීම කර ගත හැකිය.

මිනිසෙකුව උපන් හැම කෙනෙකුම අවබෝධ කරගත යුතු වැදගත්ම දේ නම් මේ ලැබුණු අවස්ථාව යළි කවදා ලැබේවිදැයි කිව නොහැකි හෙයින් මේ ලැබුණු දුර්ලභ අවස්ථාවෙන් උපරිම ඵල නෙලා ගෙන සදහටම දුකින් මිදීමට පියවර ගත යුතු බවයි. අප්‍රමාදව ලැබූ අවස්ථාව අපතේ නොයැවිය යුතුයි.

දෙවියන්, බ්‍රහ්මයින් හෝ අමනුස්සයින් කළ පින් හෝ කළ පව් අනුව ඵල විපාක විඳිනු මිස, මනස මෙහෙයවා ප්‍රඥාව මෙහෙයවා දුකින් මිදීමට අවශ්‍ය කුසල් පූර්ණය කිරීම ඔවුනට කළ නොහැකිය.

පින් කිරීමෙන් සුගතිවල ඉපදුනත් සැප වින්දත්, කුසල් කිරීමෙන් පමණක් නිවන් දැකිය යුතුය. කුසල් පිරීම මිනිසෙකුට පමණක්ම කළ හැකි දෙයකි.

පෙර ජාතියක මිනිසත් බවක උපත ලබා කරන ලද කුසල හා පින් බලයෙන්, සෝවාන් ආදී මග ඵලයන්ට පත්ව අරිය තත්ත්වයට පත් වූ දෙවියෙකු හෝ බ්‍රහ්මයෙකුව හෝ උපන් කෙනෙකුට හැර අන් සියලුම දෙවියන්, බ්‍රහ්මයින් ලෙස ඉපදී සිටින අයට කළ පින්වල ඵල විපාක විඳිමින් කාලය ගෙවනු හැර, ප්‍රඥාව මෙහෙයවා ස්වෝත්සාහයෙන්ම මග ඵල ලබාගත නොහැකිය. බුදුවරයෙකුගේ ජීවන කාලය තුළ පමණක් බණ අසා මග ඵල ලබාගත හැකිය.

මෙයින් පැහැදිළි වන්නේ නිවන් දැකීමට ගත යුතු මූලික පියවර ගත යුත්තේ මිනිසෙකුව ලත් මේ උපතේදීම බවයි. දෙවියන් වෙන්නටත්, බ්‍රහ්මයන් වෙන්නටත්, මගඵල ලබාගන්නටත්, අරිය ධ්‍යාන ලබන්නටත් අවශ්‍ය පින් හා කුසල් දෙකම පුරාගත

හැක්කේ, මිනිසත් බවක් ලත් මේ අවස්ථාවේදීම පමණි.

## නිවන් දැකීම යනු යථාවබෝධයයි

මුළු බුද්ධ දේශණාවම, පරම පවිත්‍ර සිරි සද්ධර්මයම දේශණා කළේ ලෝකයාට නිවන් අවබෝධ කර ගැනීමට මඟ පෙන්වන එකම පරමාර්ථයෙනි. "නිවන" යන අකුරු තුනෙහි නිවනක් නැත. නිවන් දකිත්වා යැයි ලක්ෂ වාරයක් කීවද එහිද නිවනක් නැත. "මම නිවන් දකිම්වා, සියල්ලෝ නිවන් දකිත්වා" යන පදවල ද නිවනක් නැත.

මේ පවතින ලෝකය තුළද ලෞකිකත්වය මිස නිවනක් නැත. නිවන් අවබෝධ කර ගැනීමට උපකාර කර ගත හැකි එකම තැනත් මේ මිනිස් ලෝකයමයි. ලෝකයෙහි මිනිසෙකු ලෙස ජීවත් වන කාලය තුළදීම මේ සඳහා සියලු වීර්යය, ධෛර්යය කළ යුතුය. මේ ලෝකය ප්‍රයෝජනයට ගෙන, ලෝකය තේරුම් ගෙන, ඒ උපකාර කර ගත් ලෝකයෙන්ද මිදී නිදහස් වීම නිවන් දැකීමයි. මරණයෙන් පසු නිවන් දැකීමට කිසිවෙකු සිතතොත් එය ලොකුම මෝහයයි.

නිවන් අවබෝධ කර ගැනීම යනු මෝහයෙන් මිදී යථාවබෝධය ලැබීමයි. යථාවබෝධයක් ලබා ගත යුත්තේ, උපතට මරණයට නියත ලෙසම හේතු පාදක වන හේතුඵල පරම්පරාවේ ක්‍රියාත්මක වීම පිළිබඳව සත්‍යය අවබෝධ කර ගැනීමටයි. මේ ධර්මතාව පිළිබඳව සත්‍යය වටහා ගත් පසු ධර්මාවබෝධයක් ලැබූ මිනිසෙකුට, තමා සිතන, කරන, කියන සෑම දෙයක්ම ධර්මයට බහා බලා කටයුතු කිරීමේ ශක්තියක් ලැබෙයි. මෙය පුරුදු පුහුණු කරගත් කළ තමා හිතන, කරන, කියන දේ තමාගේ හෝ වෙනත් කෙනෙකුගේ හෝ සසර ගමන දික් කිරීමට, නිවන ප්‍රමාද කිරීමට හේතු වේ නම්, එය ප්‍රහාණය  කර, ඒ සිතිවිල්ල, ක්‍රියාව, කථාව, අතහැර, ඉන් මිදී නිදහස් විය හැක. එවැනි යම් සිතුවිල්ලක්, ක්‍රියාවක්, කථාවක් තමාගේ හෝ වෙනත් කෙනෙකුගේ හෝ නිවනට උපකාර වේ නම්, නිවන් මඟ විවෘත කර දෙයි නම්, නිවන් මඟට ඇති බාධක, කෙළෙස් දවා හැර මඟ ශුද්ධ කර දෙයි නම්, එවැනි දේ සිතීම, කථා කිරීම වැඩි වැඩියෙන් පුහුණු කළ යුතුය. මේ සතර සතිපට්ඨානය වැඩීමයි.

යම් සිතුවිල්ලක්, කථාවක්, ක්‍රියාවක් නිසා සංසාරයට බැඳීම, ලෝකයාට සම්බන්ධ වීම, ලෝකය කෙරේ වූ බලාපොරොත්තු ඇති කිරීම වර්ධනය කරන එකක් බව දුටුවොත්, එය නිවනට බාධා බව දැක, ඉන් මිදී නිදහස් වීමට හැකි වන්නේ හේතුඵල දහම දැකීමෙන්ම පමණි.

පහකළ යුතු දේ ප්‍රහාණය කිරීමත්, ආශ්‍රය කළ යුතු දේ ආශ්‍රය කිරීමත් කළ යුත්තේ තම සිතින් තමාමය. වෙන කවුරු හෝ අම්මා, තාත්තා හෝ බුදුපියාණන් හෝ මහා සංඝරත්නය හෝ ඔබ වෙනුවෙන් මෙය කර දීමට ඉදිරිපත් විය නොහැකි බව සහතික කොට වටහා ගත යුතුය.

තමා ඉපදුනේ වෙන කාගේවත් වරදකින් හෝ වෙන කාටවත් අවශ්‍ය නිසා හෝ

නොවේ. මරණ මොහොතේත් නොතිත් ආශා බලාපොරොත්තු සිත තුළ පැවති නිසා, තව කලක් මතුත් ජීවත් වන්නට කැමැත්තක් තිබූ නිසාම තමා නැවත උපතක් ලබා තැනක හා විය.

එවන් සියලු බලාපොරොත්තු අතහැර නිදහස් වීම නිවනයි. සිතෙහි උපදින සියලු කෙළෙස්, කුණු පහකර ශුද්ධ පවිත්‍ර කර ගත යුතුවාක් මෙන්ම, මතු පළදිය හැකි යහපත් පින් කුසල් ආදී සියලු දේමත් අතහැර, ඒවායින් ද නිදහස් විය යුතුය. කර්මජ කෝෂය හොඳ නරක, පින්පව් සියල්ලෙන් හිස් විය යුතුය. එවිට ඵල විපාක දීමට යමක් එහි ඉතිරිව නැති නිසා මතු උපතක් සිදු නොවේ. මේ අනුව නිවන් අවබෝධ කර ගන්නවා, නිවන් දකිනවා යනු කුමක් දැයි බුද්ධිගෝචරව දැන, ඒ සඳහා ක්‍රියා කළ යුතු ආකාරය, මඟ පෙන්වීම ලබා දීම, ධර්ම දේශකයින්ගේ හා පොත පතෙහි ධර්මය ලියා පළ කරන්නන්ගේ වගකීමයි. යුතුකමයි. මිනිසත් බවක් ලැබ උපත ලැබූ මේ අවස්ථාවේදීම, තමාම මේ කටයුත්ත කර ගත යුතු බව නැවත මතක් කරමි.

* * * * * * * * * *

## සම්මත හා පරමාර්ථ ධර්මයන්

බුද්ධ ධර්මය ලියැවී ඇති පොත්පත්වල මෙන්ම බොහෝ ධර්ම දේශකයින් වහන්සේලාද සම්මතය හා පරමාර්ථ ධර්ම පිළිබඳව කථා කරති. සාමාන්‍ය බෞද්ධයාට පමණක් නොව උගත් ගිහි පැවිදි දෙපක්ෂයටම මේ දෙකෙහි වෙනස පිළිබඳව නිවැරදි වැටහීමක් නැත. සම්මතය වචනවලින් උදාහරණවලින් විස්තර කර ප්‍රකාශ කළ හැකි වුවත්, පරමාර්ථ ධර්ම විස්තර කළ නොහැකි නමුත් තමන්ම අවබෝධ කරගත යුතු දෙයකි. සම්මතය තේරුම් ගැනීමට එතරම් අපහසු නොවුණත්, පරමාර්ථ ධර්ම වචනයෙන් කරන විස්තරයකින් ලියා හෝ කියා තේරුම් කළ නොහැකිය. ඒ නිසා මේ මම දරණ උත්සාහයද කොතරම් දුරට සාර්ථක වේ දැයි අනුමානයෙන්වත් සිතා ගත නොහැකිය.

අප ජීවත්වන ලෝකයෙහි භාවිත කරන එදිනෙදා කරන, කියන, හිතන සියලුම දේ සම්මතයන් අනුවම කරති. ලෝකයා සමඟ සහයෝගිතාවන්, සම්බන්ධතාවන් පවත්වන සෑමවිටකම මේ සම්මතයන් අනුවම කටයුතු කරති. මිනිස් වර්ගයා බිහි වූ දා පටන්ම එකිනෙකා සමඟ එක්ව කටයුතු කිරීමේදී සම්මත ලෙසින් පනවාගෙන, පිහිටුවාගෙන ඒවායෙහි පිහිටා කටයුතු කරති. මහා සම්මත රජ කෙනෙකු පත් කරගත් කථාවත් මේ සම්මතයන්හි පිහිටීමේම වැදගත් අවස්ථාවකි.

මනස මෙහෙයවා මනසින් මැන කටයුතු කිරීමේදී, මිනිසාට මේ පැවැත්ම අවුලකින් තොරව යම් රටාවකට පවත්වා ගන්නට නම් සම්මත උපකාර වෙයි. සම්මතවල පිහිටා කටයුතු නොකළ හොත් පිස්සෙකු, උන්මත්තකයෙකු ලෙස සමාජය සළකනු ඇත. සම්මත

වලට ගරු කිරීම සුචරිතය ලෙසද, යහපත් සමාජ චාරිත්‍ර වාරිත්‍ර ලෙසද හඳුන්වා දෙති. නමුත් කිසිම සම්මතයක් නිවන් දැකීමට උපකාර නොවේ. එය රාග, ද්වේෂ, මෝහ, අලෝභ, අද්වේෂ, අමෝහ සංඛාර ප්‍රකාශ කිරීමට හෝ විස්තර කිරීමට උපකාර කර ගන්නා මාධ්‍යයක් පමණි. "සං" "මත" යන පද දෙක එකතු වී "සම්මත" යන වචනය සෑදී ඇත. "සං" යනු ඔබ දන්නා පරිදි රාග, ද්වේෂ, මෝහ පැවැත්වීම සඳහා එකතු කරන දේ යන තේරුමයි. "මත" යනු යම් ආකාරයක මත් වීමකි. බුදිමත, නිදිමත, සුරාමත වැනි මතකි. ''සං'' නිසා මත් වූ යන තේරුම මෙහි ඇත. සංසාර පැවැත්ම පැවැත්වීම දිගින් දිගටම ගෙනයාමට උපකාර කරගත හැකි, ලෞකිකත්වය අවුලකින් තොරව පැවැත්වීමට උපකාර වන පොදු නිගමන, සම්මත ලෙස පෙන්විය හැකිය. රාග, ද්වේෂ, මෝහවලින් මත් වූ මිනිසුන් යම් පාලනයකින් යුතුව පොදු රීතීන්ට අනුව පැවැත්වීමට සම්මත උපකාර වේ. එසේ නම් ලෞකිකත්වය සාධාරණ ලෙසින් පවත්වන්නේ සම්මත නිසාය. සම්මත මෙන්ම අසම්මතද රාග, ද්වේෂ, මෝහ මුල් කර ගෙනම උපත ලබන නිසා මෙහි වෙනසක් නැත. ඒ අරිය උත්තමයෙකුටය.

මේ කිසිඳු සම්මතයක එල්ලී කටයුතු කිරීම නිවන් මඟට උපකාර නොවේ. නිවන් දැකීමට උපකාර වන පරමාර්ථ ධර්මය ඇත්තේද සම්මතය තුළමය. බුද්ධියෙන්, ප්‍රඥාවෙන් කල්පනා කර යමක ධර්මතාව දක්කොත් (සං දිට්ඨිකෝ) එතැන සම්මතය තුළ ගැබ් වී ඇති පරමාර්ථ ධර්මය දැකිය හැකිය. ඒ සඳහා හේතුඵල දහම, පටිච්චසමුප්පාද ධර්මයම උපකාර කරගත යුතුය. ඒ සම්මතය, ධර්මයට බහා බැලිය යුතුය. සම්මතයක් නොවන දෙයක් තුළින් පරමාර්ථ ධර්මයක් දැකිය නොහැකිය. ඒ නිසා සම්මතයේ නැති දෙයකින්, සම්මතයක් නොවන අවස්ථාවක කිසි ලෙසකින් පරමාර්ථ ධර්මයක් දැකිය නොහැකිමය. ඒ නිසාම සම්මතයන් කිසිසේත් අතහැර දැමිය යුතු දෙයක් නොවේ. සම්මතය තුළින්ම පරමාර්ථය අවබෝධ කර ගැනීම නිවන් දැකීමයි.

මේ පිළිබඳ උදාහරණයක් ගෙන බැලුවොත්, ගෙඩියක පොත්ත හා මදය යැයි දෙකක් ඇත. ඇසට පෙනෙන්නේ විවිධ වූ, විෂම වූ පිට පොත්තය. ඒ පොත්ත තුළ මදයක් ඇති බව බාහිරින් බලන කෙනෙකුට නොපෙනේ. අපට වැදගත් වන්නේ මදය මිස පොත්ත නොවේ. පොත්ත නැති තැනක අපට අවශ්‍ය මදයක් පැවතිය නොහැකිය. පිට පොත්ත සම්මතය නම් මදය පරමාර්ථයයි. පිට පොත්ත අතගා එහි ලක්‍ෂණ බලා සිටියාට මදය දැක ගත නොහැකිය. ඒ පිට පොත්ත විද, හාරා, පසාරු කර, ඇතුළට කිඳා බැසීමෙන්ම මදය දැක ගත හැකිය. එලෙසම විපස්සනා නුවණින් සම්මතය හාරා අවුස්සා, බෙදා වෙන්කර, එහි ඇති ධර්මතාව අවබෝධ කර ගැනීම පරමාර්ථ සත්‍යය දැකීමයි. කට්ට කකා සිටීම හෝ පොත්ත අතගගා සිටීම හෝ පෘථග්ජනයාගේ හැසිරීමයි. කට්ට විද, පොත්ත පසාරු කර, මදය,හරය දැකීම අරිය උත්තමයාගේ හැසිරීමයි.

සම්මත කිසිවිටකත් දිගටම එකසේ පවතින ඒවා නොවේ. එසේම සියලු සම්මත අනිච්ච ධර්මයෝය. කැමතිසේ නොපවතියි. සෑම මොහොතකම වෙනස්වන, විපරිණාමයට පත්වන, විනාශ වන අනාථ දහම්ය. ඒවාට උරුම නියත ධර්මතාව උපන් මොහොතේ පටන් විනාශය කරා, මරණය කරා ගමන් කිරීමය. සංඛාරවල ගැබ්වූ සියලු ලක්ෂණ සම්මතවලද පිහිටා ඇත.

දරුවෙකු ඉපැදුණු මොහොතේම උපතින්ම මරණයද උරුම වී ඇත. වසරකින් වයස ගියා යනු වසරකින් මරණය කරා ළංවීමයි. එහිදී සිදුවූයේ ලබා උපන් ශක්තිය වසරකින් ගෙවා දැමීමකි. තව වසර කිහිපයකින් දරුවා ළමයෙකු විය. සම්මතය වෙනස් විය. තව කලකින් වැඩිහිටියෙකු බවටත් මහලු බවටත් පත්ව මිය යයි. මේ නිසා සම්මතය එක මොහොතකුදු එකසේ නොපවතී. විපරිණාමයට පත් වී, විනාශ වී යයි. ඒ සම්මතවල ස්වභාවයයි. සම්මත භංගුරත්වය යනු එයයි. එය ඕනෑම පුද්ගලයෙකුට තේරුම් ගත හැකිය. එය ශ්‍රාවක ගෝචර දහමකි.

මෙහි යටින් ඇති පරමාර්ථ සත්‍යය මීට හාත්පසින්ම වෙනස්ය. බිහිකළ ශක්තියක් ක්ෂණයක් ක්ෂණයක් පාසා ගෙවී ගොස් බිහිකළ ශක්තියේ බලය අවසන් වීම නිසා බිහිවූ දෙය විනාශ වී යාමක් සිදුවිය. හැම මොහොතකම ක්‍රියාත්මක වන හේතු ඵල දහමට අනුව, හේතුවක් නිසා බිහිවී හේතුවක් නිසාම විපරිණාමයට පත් වී, හේතුවක් නිසාම විනාශ වන නියත ධර්මතාව මිස වෙන කිසි අර්ථයක්, හරයක්, වටිනාකමක් මෙහි නැති බව විපස්සනා නුවණ මෙහෙයවා බැලුවහොත් දැකිය හැකිවෙයි.

මම, මට, මගේ යනු සම්මත ප්‍රකාශයෝය. ඇත, නැත යනු සම්මත ප්‍රකාශයන්ය. මේ ඇත, නැත යන සංඛාර ක්‍රියාත්මක වන, හේතුඵල දහමින් මතුවන, ඇති වන නැති වන ක්‍රියාකාරකම්ය. ඒ මිස සත්‍යය දෙයක් පරමාර්ථ සත්‍යයක් එහි නැත. දෘෂ්ටියක්, මායාවක් පමණක්ම එහි ඇත. මිනිසෙකු මැරුණු පසු කවුරුන් මැරුණාදැයි යන ප්‍රශ්ණය සම්මතයයි. එම මරණයට අදාළ පරමාර්ථ ධර්මය දැකීමට නම්, මරණයට හේතු වූ දේ දැකිය යුතුය. මැරෙන්නටම ආ කෙනෙක්, මරණය උරුම වූ කෙනෙක් මැරුණා මිස ආයුෂ අවසන් වීමෙන් විනාශ වූවා මිස, නොමැරෙන්නට ආ කෙනෙකු මැරුණා නොවේ. එය හේතුඵල දහමේ සම්බන්ධය දැකීමයි.

ලෝකය තුළ බිහිවී පවතින සියලුම සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු ප්‍රභේද වලට අපි සම්මත පනවා ගෙන, ඒවා මිනිසුන්, සතුන්, ගස්, ගල්, ලෙසින් හඳුන්වමු. නමුත් පරමාර්ථ ධර්ම ලෙසින් මේ සියල්ල ආපෝ, තේජෝ, වායෝ, පඨවි ධාතුවල එකතු වීමක් පමණි. විඤ්ඤාණයෙන් මේ සියල්ල එකතු කර, සකස් කර බලගන්වා ඇත. රාග, ද්වේෂ, මෝහ ගති විඤ්ඤාණයට ශක්තිය ලබාදෙන උල්පතයි. එසේ නම් සම්මතයෙහි ඇති සියලු දේ විඤ්ඤාණ ශක්තියෙන් (සිතේ ශක්තියෙන්) ශුද්ධාෂ්ටක එකතු කර, සකස්කර පවත්වා ගෙන යාමට දරණ උත්සාහයක්, ක්‍රියාදාමයක් පමණි. සමස්ත පැවැත්මෙහි පරමාර්ථ සත්‍යය හෙවත් ප්‍රඥප්තිය දැක ගැනීමට නම්, ශුද්ධාෂ්ටක ලෙසින් පෙන්වූ ගති අටත්, විඤ්ඤාණ ශක්තිය ලෙසින් පෙන්වූ ලෝභ, ද්වේෂ, මෝහ, අලෝභ, අද්වේෂ, අමෝහ සංඛාර හයත් මිස, වෙන කිසිඳු බලවේගයක් දෙවියෙක් හෝ විශ්වකර්මයෙකු හෝ මෙහි නැති බව යථාපරිදි අවබෝධ කර ගැනීමයි. ශුද්ධාෂ්ටක (වර්ණ, ගන්ධ, රස, ඕජා, ආපෝ, තේජෝ, වායෝ, පඨවි) වල එකතු වීම, වෙන්වීම, සංකලනය වී, විපරිණාමයට පත්වීම වැනි ක්‍රියාවලීන් අපි මේ පැවැත්ම ලෙස සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු ලෙසින් සම්මතයේ හඳුන්වමු. විඤ්ඤාණයෙන් ශක්තියක් නිපදවන තුරුම මේ එකතු කිරීම, වෙන් කිරීම, විපරිණාමය, විනාශය නොනවත්වාම ක්‍රියාත්මක වනු ඇත.

විඤ්ඤාණයේ බලාපොරොත්තු හටගැනීම නිසා බිහිකළ චිත්ත ශක්තිය (ජාති) ඒ ඒ සත්ත්වයා තම කැමැත්තෙන්ම උපදවා ගත් ඒවාය. හේතුව කැමැත්තෙන්ම සිදු කළත්, ලැබෙන ඵලයට අකමැති විය හැකිය. ඊට හේතුව, ඵලය කැමැත්ත පරිදි හෝ පැතුම පරිදි හෝ නොලැබෙන නිසාය. ඵලය නිතරම ධර්මතාවයෙන් උරුම වූ දෙයක්ම මිස අපට අවශ්‍ය දෙයක්ම නොවිය හැකිය.

ඕනෑම කෙනෙකුට ඕනෑම ක්‍රියාවක් කළ හැකිය. තමන් කළ ක්‍රියාවට ධර්මතාවයෙන් උරුම වූ ඵලයද ලැබීමට සූදානම් වී සිටිය යුතුය. මිනිසෙකු ලෙස උපත ලැබූ හැම කෙනෙකුටම මේ ගැන අවබෝධ කර ගත හැකිය. සම්මත හා පරමාර්ථ ධර්ම ගැන දැනීමක් ලබා ගත යුතු වන්නේ, මිනිසෙකු ලෙස මනසින් කල්පනා කර, මේ සම්මත හේතු වෙනස් කිරීමෙන් පමණක් හා සම්මත හේතුවලින් නිදහස් වීමෙන් පමණක්, ඵලයද වෙනස් කර ගැනීමට ඇති හැකියාව අවබෝධ කර ගැනීමෙනි.

වෙනත් දෙවියෙකුට, බ්‍රහ්මයෙකුට හෝ සත්ත්වයෙකුට හෝ විශ්වකර්මයෙකුට හෝ මිනිසාට උපතින්ම ලැබී ඇති මේ ශක්තිය, මනසින් මැන බැලීමේ ශක්තිය ලැබී නැත. සම්මතය තුළින් පරමාර්ථය අවබෝධ කර ගැනීම ඒ ශක්තියයි. ලාභ - පාඩු, යස - අයස, නින්දා - ප්‍රශංසා, දුක - සැප ආදී අටලෝ දහමම සම්මතයන්ට අයත්ය. මේවා ඇත, නැත යන ධර්මතාවන්ය. නමුත් මේ අටලෝ දහමෙහිම පරමාර්ථය අවබෝධකර ගතහොත්, මේ කිසි දෙයක හොඳක්, නරකක්, ලාභයක්, පාඩුවක් හෝ ඇත, නැත යන කිසිවක් හෝ නොවන බව දැකිය හැකිය. ලාභයක් යනු මේ සංසාර සම්බන්ධතාව පවත්වා ගන්නට මේ මොහොතේ මම ලබාගත් සම්මත ලැබීමකි. මේ ලාභය ලැබීම තව කෙනෙකුට පාඩුවක් කිරීමකි. අපි අනුන්ගේ කොටසක්, අයිතියක් අයුතු ලෙස පරිහරණය කිරීමකි. අද අදම මේ ලාභය භුක්ති වින්දත් සංසාර ගණුදෙණුවේදී මතුවට මේ සුළු ලාභය දස දහස් ගුණයෙන් ආපසු ගෙවන්නට සිදුවෙයි.

යථාවබෝධයෙන් යුතුව ඒ අවස්ථාවෙහිම ලාභය අතහැර දැම්මේ නම් ගණුදෙනුවෙන් මිදුණි. ලාභය ඒ අවස්ථාවේ ලැබූ සුළු සැපයකි. තෘප්තියකි. මතු කිහිප ගුණයකින් ගෙවන්නට වීම ඒ ලැබූ සැපයට වන්දි ගෙවීමකි. අටලෝ දහම මෙවැනි හේතුඵල දහම ක්‍රියාත්මක වන ක්‍රියාවලියකි. සම්මතය හා පරමාර්ථයන් අතර වෙනස දැකගත යුතු වන්නේ, දහම ක්‍රියාත්මක වන ආකාරය දැක, අටලෝ දහමින්ම මිදී නිදහස් වීමටය.

සම්මත මෙන්ම අසම්මත ද සියල්ල සංඛාරයෝය. පුද්ගලයාගෙන් පුද්ගලයාට, රටින් රටට, කාලයෙන් කාලයට, විවිධ වූ, විෂම වූ සම්මතයන් සත්‍යය ධර්මතාව පෙන්නුම් නොකරයි. පරමාර්ථ සත්‍යය එසේ වෙනස් විය නොහැකිය. ඒ නිසාම කාලාන්තරයකට පෙර බුදුපියාණන්වහන්සේ පෙන්වා වදාළ පරමාර්ථ ධර්ම ලොව පවතින තුරු සත්‍යය ධර්මයෝය.

එකම සංඛාරයක සම්මත දහස් ගණනක් සාදා ගත හැකිය. නමුත් පරමාර්ථ ධර්මය නැතිනම් සත්‍යයන් එකක් පමණක්ම ඇත. දුක නැමැති සංඛාරය, සම්මතයේදී විවිධ අයට

බඩගින්න, පිපාසය, ලෙඩ රෝග, වේදනාව, මුදල් නැතිකම, ගෙවල් නැතිකම ආදී දහසකුත් ලෞකික අඩුපාඩු ලෙසින් දැකිය හැකිය. උපන් කිසිම සත්ත්වයෙකුට ලෙහෙසියෙන් දුකින් මිදී යා නොහැකිව ඇත්තේ, දුක නැමති සම්මතයෙහි එල්ලී තාවකාලිකව දුක නැති කර ගැනීමට විවිධ පිළියම් කරන හෙයිනි. මේ හැම පිළියමක්ම දුක් ගින්න වැඩි කරන්නකි. දුක පිළිබඳව යථාර්ථය, පරම සත්‍යය තේරුම් ගැනීම පමණක් දුකින් මිදී යාමට උපකාර වෙයි. එය චතු අරිය සත්‍යය දැකීමයි. දුක පිළිබඳව හේතුඵල දහම යථාවබෝධයෙන් දැක, සමුදය නිරෝධ කිරීම නිවනයි. සම්මතයෙන් දුක යැයි නිගමනය කරගෙන සිටින බඩගින්න, ලෙඩරෝග, සම්පත් හිඟකම සිතින්ම සාදාගත් සිත සිතා කරන විඳවීමකි. මෙය සම්මතය නැමති කට්ට කකා සිටීමකි. එලෙස සම්මතයන් තුළම විඳවීම, හිරවී දුක් විඳීම කිසිවිටකත් දුකින් මිදී යාමට හේතුවක් නොවේ. දුකට හේතුවම සම්මතයට යටින් ඇති පරමාර්ථ ධර්මයම දැක අවබෝධ කරගත හොත්, කෙනෙකු දුකින් මිදෙන මාර්ගය දකියි. එය "අනිච්ච" බව, "අනත්ථ" බව දැකීම ලෙස බුදුපියාණන් දේශණා කළ සේක. කැමැත්ත පරිදි නොලැබීම, කැමැත්ත සිදු නොවීම අනිච්ච ධර්මතාවයි. එයම දුකට හේතුවයි. එවැනි තත්ත්වයක් අනිවාර්යයෙන් අනාථ තත්ත්වයකි. නොවටිනා, අර්ථයක් හරයක් නැති අනාථ තත්ත්වයකි. මෝහයෙන්, තණ්හාවෙන්, බලාපොරොත්තු ඇතිකර ගත්තත්, මේ බලාපොරොත්තු කැමති පරිදි සිදුනොවේ නම්, කිසිවිටකත් සිදු කර ගත නොහැකි නම් එය දුකම උරුම කරදෙන අනාථ තත්ත්වයකි. දුක පිළිබඳව මේ හේතු ඵල දහම අවබෝධ කරගැනීම, දුක පිළිබඳව පරමාර්ථ සත්‍යය දැකීමයි. එය "අනිච්චයි, දුක්ඛයි, අනත්ථයි" අවබෝධ කර ගැනීමයි. සැප පිළිබඳව පැවති නිච්ච, සුභ, සුඛ, අත්ථ සංඥාවන් අත් හැරීමයි.

මේ විස්තරයෙන් පැහැදිළි කරදීමට උත්සාහ කළේ, පරමාර්ථ සත්‍යය වචනයෙන් ලියා හෝ කටින් කියා හෝ විස්තර කරදීමට හැකි දෙයක් නොවන බවයි. එය තම තමන්ම අවබෝධකර ගතයුතු ධර්මතාවයකි. සම්මතය යනු, එය ප්‍රකාශ කර විස්තර කරදීම සඳහා උපයෝගී කර ගන්නා මාධ්‍යයයි.

* * * * * * * * * *

# ශ්‍රද්ධාව හා භක්තිය

ශ්‍රද්ධාව හා භක්තිය යන වචන දෙකෙන් ප්‍රකාශ කරන දේ එකක්ම නොවේ. භක්තිය යනු පෘථග්ජන සිතක බිහිවන මෝහ සහ ලෝභ සහගත චිත්ත ශක්තියයි. තම ලෞකික අවශ්‍යතාවන් ඉටු කර ගැනීමේ බලාපොරොත්තුව නිසාම සිතක ශක්තියක් උපදී. තමාට පිහිටක්, උපකාරයක්, අනුකම්පාවක් ලබා ගැනීමේ චේතනාව, භක්තියත් සමඟම එකටම උපදී. එය ලෞකික දෙයකි. තම ලෝකය සුඛිත මුදිත කර දෙන ලෙස තවත් කෙනෙකුගෙන් ඉල්ලා යදින්නේ බලාපොරොත්තු සහගත භක්තියෙනි. එය ඉතාම තාවකාලික අවශ්‍යතාවක් ඉටුකර ගැනීමට උපකාර සෙවීමකි.

ශ්‍රද්ධාව මෙයට වඩා හාත්පසින්ම වෙනස්ය. එය යථාවබෝධයෙන්ම ලැබිය යුතු නුවණකි. පින් හා කුසල් කිරීමෙන්ම ලබන පුණ්‍ය ශක්තියත් සමඟ ශ්‍රද්ධාව උපදී. අනන්ත අප්‍රමාණ දුක් විඳින ලෝක සත්ත්වයාට ධර්මය දේශණා කිරීමෙන්, සතර බ්‍රහ්ම විහරණයෙහි යෙදීමෙන් බුදුපියාණන්වහන්සේලා මෙන්ම මහා සංඝරත්නය ද ලෝකයාට නිවන් මඟට උපනිශ්‍රය ලබා දීම පිළිබඳව මෙනෙහි කරන විට ශ්‍රද්ධාව සිතක උපදී. බුදුපියාණන්වහන්සේලා මේ ධර්මය උත්සාහයෙන්, මහන්සියෙන් සොයා දැන අවබෝධ කරගෙන දේශණා කළේ, දුක් විඳින අනන්ත අප්‍රමාණ සත්ත්වයින් දුකින් මුදවා ගැනීම සඳහාම බව අවබෝධ කරගෙන, එවැනි යහපත් සිතිවිල්ලක් සිතක මතුවී, සිත පහන්කර ගැනීම, පැහැදීම ශ්‍රද්ධාවයි. ශ්‍රද්ධාවද එක්තරා ආකාරයක විශ්වාසයකි. ඒ බුදුපියාණන්වහන්සේලා දේශණා කර පෙන්වා වදාළ සත්‍යය අවබෝධ කර ගැනීම, තමාවත් දුකින් මිදීමට උපකාර වන බව, සරණ වන බව දැක ඒ ධර්මය ගැන ඇති වන විශ්වාසයයි. පෙන්වා දුන් ධර්ම මාර්ගය ගැන ඇතිවන විශ්වාසයයි. උන්වහන්සේලා අනන්ත අප්‍රමාණ සංසාරයේ පෙරුම් පුරා, උත්සාහ ගෙන මේ සියල්ල කළේ දුක්විඳින සත්ත්වයා වෙනුවෙන්ම නේද? යන ගෞරවාන්විත සිතුවිල්ල ශ්‍රද්ධාවයි. මේ නිසාම ශ්‍රද්ධාව යනු ගෞරව සම්ප්‍රයුක්ත විශ්වාසයකි. සත්‍යය අවබෝධ වීමකි.

භක්තියද විශ්වාසයක් මතම ගොඩනැගුනු එකකි. තමන්ටම දුකක්, අපහසුවක්, මදිපාඩුවක් ඇති වූ විට එය නැති කර ගැනීමට තාවකාලික ප්‍රතිකර්මයක් කර ගැනීමේ අවශ්‍යතාව සපුරාගත හැකි වේය යන විශ්වාසයයි. "මට මේ කරදරයෙන් මිදීමට දෙවියන්, බුදුන්, ධර්මය පිහිට වේ, පිළිසරණ වේ" යන විශ්වාසය, භක්තිය නිසාම හට ගත් එකකි.

ශ්‍රද්ධාවෙන් ඇතිවන විශ්වාසය මීට වඩා දහස් ගුණයකින් බලවත්ය. බුදුපියාණන් වහන්සේගේ රූපකාය දැකීමෙන්, අරහතුන්වහන්සේලාගේ රූපකාය දැකීමෙන්, මනසට දැනෙන තෘප්තිය, භක්තියකි. උන්වහන්සේලා දේශණා කරන ලද ධර්මයෙහි ධර්ම රසය තුළින් සත්‍යය අවබෝධ වීමෙන් සිත ආලෝකමත් වීම, සසර අඳුරින් මිදීමට මඟ දැකීම ශ්‍රද්ධාවයි. දහම් රසය විඳිය හැක්කේ ශ්‍රද්ධාවෙන්මය. භක්තියෙන් දහම් රසය විඳිය නොහැකිය.

ශ්‍රද්ධාව නිසා ආත්ම ශක්තියත් ආත්ම විශ්වාසයත් ගොඩනැගේ. තමන්ට උපකාර

කර ගත හැකි, සරණකර ගත හැකි ශක්තියක් තමන් තුළම ගොඩනගා ගැනීම, උපද්දවා ගැනීම ශ්‍රද්ධාවයි. තමාට තමාම පිහිට වන බව දැකීම එහි අර්ථයයි. භක්තිය නිසා ආත්ම ශක්තියක් ඇති නොවේ. වෙනත් බාහිර බලවේගයක්, දෙවි කෙනෙකු, විශ්මකර්මයෙකු, බුදුපියාණන්වහන්සේ හෝ නොපෙනෙන බලවේගයක් කෙරෙහි හෝ විශ්වාසය තබා, ඒ බලවේගයට පුද පූජා පැවැත්වීමෙන් සියල්ලම ලැබේ, ඒ බලවේගය අපට සියල්ල ලබාදේ, යන අන්ධ විශ්වාසය භක්තියයි. මෙහිදී තම ආත්ම ශක්තිය, චිත්ත ශක්තිය බලවේගයකට පාවා දෙයි. තමන් මොනවා කළත් මොනවා නොකළත් අර නොපෙනෙන බලවේගය සියල්ල තීරණය කරනු ඇත, යන දැඩි විශ්වාසය නිසා සත්‍යය මෝහයෙන් වැසී යයි. මේ නිසාම පෙනෙන හෝ නොපෙනෙන බලවේගයන් විශ්වාස කර පැතුම් පැතීම, පුද පූජා කිරීම, යැදීම තමන් කළ යුතුය යන නිගමනයට බැසීම භක්තියයි. මේ අනුව භක්තිය නිසා පින් සිදුකර ගැනීමට හැකිය. නමුත් භක්තියෙන් කුසල් සිදුකර ගැනීමට නොහැකිය. කුසල් සිදු කරගත හැක්කේ ශ්‍රද්ධාවෙන් පමණි.

අභ්‍යන්තර චිත්ත පාරිශුද්ධතාව තමා තුළ ඇති වන්නේ ශ්‍රද්ධාව මුල්කොට ගෙනමය. යථාවබෝධය ලැබීම, සත්‍යය සමඟ සම්බන්ධ වීම භක්තියෙන් කළ නොහැකිය. ලෝකයේ පවතින සියලුම ආගම්වල, මිනිසාට ඉහළින් පවතින යම්කිසි බලවේගයකින් මිනිසා පාලනය කරන බව අදහස් කරන නිසා, ඒ සියලු ආගම් භක්තියෙන්ම ඇදහිය යුතු ආගම්ය. යම් හෙයකින් මේ බලවේගය පිළිබඳව ඇති විශ්වාසය පළුදු වුවහොත්, භක්තියද නැති වෙයි. බුදුපියාණන්වහන්සේ දේශණා කළ සිරි සද්ධර්මය පෙන්වා දුන්නේ කිසිම බාහිර බලවේගයක් හෝ බාහිර පුද්ගලයෙකු පිළිබඳව හෝ නොවේ. තමා, තමා ගැනම විශ්වාස කිරීමයි. සියලු සත්ත්වයින් සම තත්ත්වයක ලා සැළකූ නිසා කිසි දෙවියෙකු, බ්‍රහ්මයෙකු හෝ බුදුපියාණන්වහන්සේ කෙනෙකු වුවද තවත් කෙනෙකුට විමුක්තිය ලබා දීමට හෝ නිවන් දක්කවීමට හෝ සමත් නොවේ. තමාම ඒ කටයුත්ත කර ගත යුතුය. බුදු දහම යනු ඇත්ත වශයෙන්ම මේ අනුව බලන කළ ආගමක් නොවේ. භක්තියෙන් පුද පූජා පැවැත්වීමෙන්, බලවේගයක් ඇදහීමෙන්, අදෘශ්‍යමාන ශක්තියක් කෙරෙහි විශ්වාසය තැබීමෙන්, නිවන් දැකිය හැකි බවක් බුදුපියාණන්වහන්සේ දේශණා කළ ධර්මයෙහි කිසි තැනක සඳහන්ව නැත. හේතුඵල ධර්මතාව බුදු දහමේ උගන්වන මූළිකම කරුණයි. එය ශ්‍රද්ධාවෙන්, ප්‍රඥාවෙන් යථාවබෝධයක් ලැබිය යුතු, තමන්ම භාවිත කළ යුතු ධර්මයකි. ලොව පවතින එකම ශක්ති ප්‍රභවය චිත්ත ශක්තියයි. තමාගේම චිත්ත ශක්තියයි. ඒ පිළිබඳව සත්‍යාවබෝධය ලැබීම ශ්‍රද්ධාව පහළ වීමයි.

භක්තිය යනු බැඳීමකි. යම් බලාපොරොත්තුවකට, විශ්වාසයකට බැඳීමකි. බැමි වලින් නිදහස් වී ලබන විමුක්තිය ශ්‍රද්ධාවයි. බෞද්ධයෙකුට නිවන් දැකීමට "ඛණ සම්පත්තිය" ලැබීමට උපකාර වන්නේ ශ්‍රද්ධාවයි. මල් පූජා කිරීමෙන්, පහන් දැල්වීමෙන්, සුවඳකුරු දැල්වීමෙන්, තෙරුවන් නැමැදීමෙන් වැනි පුද පූජා ක්‍රමවලින් බුදුපියාණන්වහන්සේ බලාපොරොත්තු වූයේ අනිච්ච, දුක්ඛ, අනත්ථ තත්ත්වය අවබෝධ කර ගැනීම මිස භක්තිය වඩා ගැනීමට මල්පූජා කළ යුතු බවක් කොතනක හෝ පෙන්වා දී නැත. පයට පෑගෙන්නට මල් දැමිය යුතු බව මිස මල් කරේ පැළඳ වීමක්, හිසේ පැළඳවීමක් හෝ හිස සැරසීම සඳහා හෝ පාවිච්චි කළ යුතු බවක් බුද්ධ භාෂිතයෙහි කොතනකවත් සඳහන් කර නැත. මල් යනු මැරෙන දේ යන තේරුමයි. ඒ මැරෙන දේ පයට පෑගෙන්නට

දමා එහි අනිච්ච බව දැකිය යුතුය. අද මල් පූජා කරන්නේ භක්තියෙන් මිස ශ්‍රද්ධාවෙන් නොවේ. හින්දු හා ශිව වැනි ආගම්වල බලපෑම් නිසා, භක්තිය ඉස්මතු වී ශ්‍රද්ධාව යටපත්ව නිවන් මඟ වැසී ඇත. මේ නිසා ශ්‍රද්ධාව හා භක්තිය නිවැරදිව වෙන් කොට හඳුනාගැනීම නිවන් දැකීමට උපකාර වේ.

* * * * * * * * * * *

## පින්පව් - කුසල් අකුසල්
### (ලෞකික හා ලෝකෝත්තර වශයෙන්)

පින්පව්, කුසල් අකුසල් යනුවෙන් හඳුන්වන සියලුම දේ, ඒ ඒ සත්ත්වයා තම තමන්ම මොහොතක් මොහොතක් ගානේ සිතන, කරන, කියන සංඛාර අනුව, ඒ සංඛාර ආශ්‍රයෙන් තමාම උපදවා එකතු කර ගන්නා චිත්තජ ශක්තීන්ය. එවන් චිත්තජ රූප ආශ්‍රයෙන් බිහිවන සියලුම කර්මජ ශක්තීන් අකුසල්, පව් හා පින් ලෙස හඳුන්වයි. චිත්තජ ශක්තීන් ආශ්‍රයෙන් එකතු කර ගන්නා චිත්තජ රූප පහ කර, ප්‍රහාණය කර සළා හැරීම කුසලයයි. තමාම එකතු කරගත් කුණු, කෙළෙස් ගති තම සිතින්ම සළා හැරීම කුසලයයි.

### අකුසල් හා පව්කම්

අකුසල් හා පව්කම් ලෙස හඳුන්වන සියලු දේ ධර්මයට නොගැළපෙන, දුෂ්චරිතයන් ලෙස පෙන්වා දිය හැකි ගති ලක්ෂණයන්ය. දස අකුසල්, දස පාප ක්‍රියා, දස දුෂ්චරිත ආදී විවිධ නම්වලින් පෙන්වා දුන් සියල්ල පුද්ගලයෙකුගේ, සත්ත්වයෙකුගේ චිත්තසංථානයේ පහළවෙන වැරදි ගති ලක්ෂණයන්ය. මෙවන් සියලු දේ ඵල විපාක ලබා දෙන චිත්තජ ශක්තීන් බිහි කරන නිසා, කර්මජ රූප ලෙසින් කර්මජ කෝෂයේ තැන්පත් වෙයි. ඒ කර්මජ කෝෂයේ තැන්පත් වූ සියලු කර්මජ ශක්තීන්හි ඵල විපාකයන්ද, පව, අකුසලය කරන ලද අය වෙතම අනිවාර්යයෙන් ම විපාක දෙයි. එය ධර්මතාවයෙන්ම සිදුවන දෙයකි. කරන ලද පාපයෙහි හෝ අකුසලයේ හෝ ප්‍රමාණය අනුව, බිහි කළ චිත්ත ආවේගයේ ශක්ති ප්‍රමාණය අනුව එහි විපාකය ද ප්‍රබල හෝ දුබල වෙයි. චිත්ත ආවේගය බලවත් නම් ගුණාකාරයෙන් වර්ධනය වී, සිය දහස් ගුණයෙන් ඵල විපාක වැඩි වෙයි. එක වරදක් වෙනුවෙන් සිය දහස් වරක් විපාක විඳින්නට ද සිදු වෙයි.

කෙනෙකු කළ පාපයක්, අකුසලයක් වෙනත් කෙනෙකුට පවරන්නට හෝ වෙනත් කෙනෙකුට ඵල විපාක ගෙන දෙන්නට හෝ කිසිසේත්ම සමත් නැත. ඒ නිසා තමන් කරගත් දේ තමන්ට ම අනිවාර්යයෙන්ම ඵල විපාක දීමටත්, දුගතියට පත් වීමටත්, දුක උරුම වීමටත් හේතු වනවා මිස වෙනත් කෙනෙකු මතින් යැවිය නොහැකිය.

පව්කම්, අකුසලයන්, අධර්මයේ හැසිරීම් සියල්ලම ඒවා කරන පුද්ගලයාගේම චිත්තය අඳුරු කරන, කිළිටි කරන, සිතට කුණු ගති එකතු කරන ශක්තීන්මය. ඒ නිසා ඒවා පොදුවේ සමාජයට, ස්වභාව ධර්මයට හා වෙනත් සත්ත්වයින්ට ද අහිතකර ලෙස ම බලපායි.

පින්කම් ද ප්‍රධාන කොටම ලෞකික පින්කම් හා ලෝකෝත්තර පින්කම් යැයි දෙකොටසකට බෙදා දක්විය හැකිය. මේ දෙකෙහි වෙනස දන හඳුනා ගැනීම, තෝරා බේරා ගැනීම හා ඒ අනුව ක්‍රියා කිරීම බුද්ධිය වඩා මෝහයෙන් මිදීමට උපකාර වේ.

ලෞකික පින්කම් බෞද්ධ අබෞද්ධ කාටත් පොදුවේ කරගත හැකි දෙයකි. මෙවන් පින්කම් කිරීමට බෞද්ධ රටක ඉපදීම හෝ බුද්ධෝත්පාද කාලයක ඉපැදීම හෝ අවශ්‍ය නොවේ. පන්සල්, වෙහෙර විහාර, ආගම් ඇතත් නැතත් මිනිසාට මෙවැනි පින්කම් කර ගත හැකිය. සිත පිනා යන, සිත පහන් වන සියලු පුණ්‍ය ක්‍රියා ලෞකික පින්කම් කොටසට අයත්ය. අබෞද්ධ බටහිර රටවල හා තෙල් සම්පත් ඇති රටවල මිනිසුන්, සැප සම්පත් යැයි පෘථග්ජන ලෝකයා සිතන, ධන ධාන්‍ය, මිල මුදල් හා පහසුකම්වලින් පරිපූර්ණ වන්නේ, ඔවුන් කරන ලද ලෞකික පින්කම්වල ඵල විපාක උරුම වීමෙනි.

නගරයේ මහ මන්දිරවල අතට පයට වැඩකාරයින් (මිනිසුන්) ඇතිව සියලු සැප සම්පත් විඳින බල්ලන් ද, ඒ සැප සම්පත් විඳින්නේ, පෙර අත්බැව්වලදී කරන ලද ලෞකික පින්කම්වල ඵල විපාක උරුම වීමෙනි. ලෞකික පින්කම් කිරීමත් සමගම, දුසිරිතෙහි හැසිරීම ද සිදුකළ නිසා බලු බවට පත්විය. බහ ඉවත ලා කටයුතු කිරීම බහලු බවට පත්වීමයි. අධර්මයේ හැසිරීම, බහ ඉවත ලා කටයුතු කිරීමයි. පටිච්ච සමුප්පාද ධර්මයේ එන හේතුඵල ධර්මතාව තේරුම් ගන්නට හැකි වූ කෙනෙකුට මේ ආකාරයෙන් බලු බව උරුම වූ ආකාරය පහසුවෙන්ම තේරුම් ගත හැකි ය.

මේ අනුව තේරුම් ගත යුත්තේ ලෞකික පින්කම් සැප සම්පත්, ධන ධාන්‍ය ආදිය ලැබීමට හේතුවන බවයි. නමුත් මෙවැනි පින්කම්වල ඵල විපාක නිසාම රාග, ද්වේෂ, මෝහ වඩවන, අකුසලයටම හිත තල්ලු කර හරින, සම්බන්ධකම් ඇති කරවන ගතියක් ඇත. මෙවන් පින්කම් සසර ගමන දිගින් දිගටම පවත්වා ගෙන යාමට හේතු වන බවත්, නිවනට බාධක වන බවත්, කෙළෙස් සහගත චිත්ත ශක්තීන් උපදවන සංඛාර පැවැත්වීමට උපකාර වන බවත් ප්‍රකාශ කළ යුතුය. රාගය හා මෝහය නිසාම සත්‍යාවබෝධය ලැබීම ප්‍රමාද කර, නිවන් මග වැසෙයි. සිත අඳුරු වීම, කිළිටි වීම හා කෙළෙස් සහිත වීම නිසා ක්‍රමයෙන් අගතියට, දුගතියටම යනු මිස මෙවන් ලෞකික පින්කම් සුගතියට යාමට උපකාර නොවේ.

## ලෝකෝත්තර පින්කම්

ලෝකෝත්තර පින්කම් යනු මෙයට වඩා වෙනස් දේවල්ය. මහණ උතුමන්ට, සිල්වතුන්ට සිවුපසයෙන් සංග්‍රහ කිරීම, සිල් රැකීම, ධර්ම දානය, ධර්මයේ හැසිරීම වැනි සම්බන්ධකම්වලට, එකතු කිරීම්වලට උපකාර නොවන පින්කම් ලෝකෝත්තර පින්කම්

ලෙස පෙන්වා දිය හැක. ආයු, සැප, බල, වර්ණ, ප්‍රඥා යන පස් ආකාර වූ සැප සම්පත් ලැබීමට මෙවන් පින්කම් හේතු වේ. සිහි නුවණ මෙහෙයවා කටයුතු කිරීමේ හැකියාව, හොඳ නරක තේරුම් ගැනීමේ හැකියාව හා විශේෂයෙන් හේතුඵල ධර්මතාවයේ සත්‍යය වටහා ගැනීමේ ශක්තිය ලැබෙන්නේ මෙවන් පින්කම්වල ඵල විපාක ලෙසින්ය. ධර්මය අසා ධර්මය තේරුම් බේරුම් කරගන්නට, සම්මතයෙන් පරම සත්‍යය වෙන්කර දකින්නට, ඒවායේ වෙනස්කම් වටහා ගන්නට හැකි ශක්තිය ලැබෙන්නේ, ලෝකෝත්තර පින්කම්වල ඵල විපාක ලෙසිනි. ලෞකික පින්කම් නිවන් අවබෝධය සඳහා උපකාර නොවන අතර, ලෝකෝත්තර පින්කම්ද නිවන් අවබෝධයට සෘජුවම හේතු නොවේ. නමුත් ලෝකෝත්තර පින්කම් කිරීමෙන්ම ඒ පින්වල ඵල විපාක ලෙසින්ම, නිවන් අවබෝධ කර ගන්නට අවශ්‍ය කරන ධර්මාවබෝධය, බුද්ධිය හා ප්‍රඥාව දියුණු කරගත හැකිය. මිනිස් ජාතියක මතු මතුත් උපත ලබන්නටද හේතු වන්නේ මෙවන් පින්කම්ය.

විඤ්ඤාණ ශක්තියක් ක්‍රියාත්මක වන්නේ මෝහය පවතිනා නිසාමය. මෝහය යනු අඳුරු වී, කිළිටි වී කෙළෙස්වලින් චිත්තය වැසී යාමයි. මෙය කුණු කන්දරාවකින් චිත්තය වැසී යාමකි. ඒ කුණු ඉවත් කර, සළා හැර, ශුද්ධ පවිත්‍ර කරගත හැකි වන්නේ, ලෝකෝත්තර පින්කම් කර, කුසල් කර - ආයු, සැප, බල, වර්ණ, ප්‍රඥා යන සම්පත් ලබා ගැනීමෙන්ම පමණි.

ලෞකික වුවත් ලෝකෝත්තර වුවත් තමන් කරන පින්කම්වල සියලු ඵල විපාක උරුම වන්නේ තමාටමය. සුගතියක උපත ලැබීමට, දුගතියෙන් නිදහස් වීමට හා දුකෙන් නිදස් වීමට මග දැක ගැනීමට නැණ නුවණ පහළ වන්නේද මෙවැනි පින්කම් කිරීමෙහි ඵල විපාක ලෙසිනි.

මෙයට අමතරව ලෞකික හා ලෝකෝත්තර පින්කම් කිරීමෙන් තමන් උපයා ගන්නා පින, කිරණ ශක්තියක් ලෙසින් තව කෙනෙකුට පැවරීමට, පින් පැමිණ වීමට, පින් අනුමෝදනා කිරීමට, පින් ලබා දීමටද උපකාර වෙයි. සංසාරයේ ගමන් කළ දීර්ඝ කාලය තුළද, මේ ජීවිතයේ උපන් දා සිට අද තෙක්, තමාට උදවු උපකාර කළ දෙමවුපියන්, වැඩිහිටියන්, සහෝදර සහෝදරියන්, නෑදෑයින්, සේවක ස්වාමි පක්ෂයන්, හරකුන්, බල්ලන් වැනි සතුන්ට පවා තමන් විශාල වශයෙන් ණයගැති බව සිතා ගත හැකිය. මෙවන් සියලු ණයෙන් නිදහස් විය හැකි එකම ක්‍රමය, උපයාගත් පින්කම් ඒ ඒ අයට පැවරීමෙන්, පින් ලබා දීමෙන් ණය ගෙවීම හා වන්දි ගෙවීමෙනි. තමන් කළ සියලු පින්කම් එවැනි අයට පවරා ණයෙන් වන්දියෙන් නිදහස් වීම, නිවන් දකින්නට අවශ්‍යයෙන්ම කරගත යුතු දෙයකි.

කුසල් යනු, කුණු සළා හැර ශුද්ධ පවිත්‍ර වීමයි. පින්කම් කිරීමේ දී මෙන් කිසිවක් එකතු කර ගැනීමක් කුසලය පිරීමේදී සිදු නොවේ. රාග, ද්වේෂ, මෝහ හෝ අලෝභ, අද්වේෂ, අමෝහ නිසා හෝ සත්ත්වයා තම තමන්ම එකතු කර ගත්, එකතු කර ගන්නා සියලු කෙළෙස් ගති, චිත්තය අඳුරු කරන, කිළිටි කරන, අපිරිසිදු බවට පත් කරන දේවල්මය. වැරදි, ඇද, වංක, අපිරිසිදු ආදී පහත් ගති ලක්ෂණ පහ කර දමා, ඒවා සළා හැර, චිත්ත පාරිශුද්ධියට පත් කර ගැනීම කුසල් පිරීමයි. වැරදි චරියාවෙන්, දුෂ්චරිතයෙන් වැළකී,

වැරදි අතහැර, අනාචාරය අතහැර, වංචාව අතහැර, ඇද නැතිව, පිරිසිදුව, පිවිතුරු වීම කුණු සළා හැරීමයි. එය කුසලය පිරීමයි. සංවර වීම, සංසිඳුවීම ඒ සඳහා උපකාර කරගත හැකි ක්‍රියාකාරකම් ය.

## ලෞකික කුසලය

ලෞකික කුසල යනු දස අකුසලයෙන්, දස පාප ක්‍රියාවන්ගෙන්, දස දුෂ්චරිතවලින් වැළකී සිටීමයි. එවන් නුසුදුසු දේ අතහැර නිදහස් වීම ලෞකික කුසලයයි. "වේරමණී සික්ඛා පදං සමාදියාමි" යැයි සීලයක් සමාදන් වීමෙන් උත්සාහ දරන්නේද මෙවන් අකුසලයෙන් මිදීම, නැතිනම් මේ ලෞකික කුසලය පිරීමයි. මෙය අධර්මයෙහි හැසිරීමෙන් වැළකී සිටීමයි. පස් පවින්, දස අකුසලෙන් වැළකී සිටීමයි. පෘථග්ජන පුද්ගලයින් සිල් රකිනවා යනුවෙන් කරන්නේද මෙම ලෞකික කුසලය පුරා ගැනීමයි. මෙය වේරමණී සීලයෙහි කොටසක් පිරීමකි. පංච සීලයට අයත් චේතනා සීලය, සංවර සීලය, ප්‍රහාණ සීලය හා අවිතික්කම සීලය පුරා ගත හැකි වන්නේ, ලෝකෝත්තර කුසලය පිරීමෙනි. නැතිනම් ලෝකෝත්තර කුසලය පිරීමෙන් ඒ සඳහන් කළ පංච සීලයේ කොටස් පූර්ණ වෙයි.

බුදුපියාණන් නිවන මඟ සොයා ලෝකයාට අරිය සීලය දේශණා කරන්නට පෙරද පන්සිල් සමාදන් වීමත්, විවිධ ආකාර වූ වත් රැකීමත්, පෙහෙවස් සමාදන් වීමත්, ආගම් ගණනාවක මූලික ලක්ෂණ ලෙස පැවතුණි. එසේ නම් ලෞකික කුසලය හෙවත්, අකුසලය පහකර නිදහස් වීම බුදුපියාණන් නිවන් මඟ සොයා ගන්නට පෙර පටන්ම පැවති එකකි.

අකුසල් කිරීම, පව්කම් කිරීම යනු අයුතු අසාධාරණ, නොකටයුතු දේ කිරීමයි. මෙවන් නොකටයුතු, නොකළයුතු දේ නොකර වැළකී සිටීම, පින්කමක් හෝ කුසලයක් හෝ විය නොහැකි බවද දැන් අවබෝධ කර ගතහැකි විය යුතුය. නමුත් මෙය ලෞකික කුසලයකි. වෙනත් විදියකින් කීවොත් අයුතු, අසාධාරණ, නොකටයුතුවලින් එවන් පාපකාරී ක්‍රියා, වදන්, සිතුවිලිවලින් ඉවත් වී, ඒවා සළාහැර, සිත පවිත්‍ර කර ගැනීම ලෞකික කුසලය පිරීමයි. පෘථග්ජන පුද්ගලයෙකු, සත්ත්වයෙකු සංසාරය පුරාම කර ගන්නේ, අහක යන කුණු එකතු කර ගෙන තම මල්ල පුරවා ගැනීමයි. එකතු කර ගත්, පුරවා ගත් කුණුවල බර තමන්ම ඇද්ද යුතුය.

අකුසලයෙන් මිදී වැළකී සිටීමට නම්, යම් කෙනෙකු හේතුඵල දහම ක්‍රියාත්මක වන ආකාරය පිළිබඳව සත්‍යය යම් තරමකින්වත් දැනගත යුතුය. හොඳ - නරක, යහපත - අයහපත, ලාභ - අලාභ ලෙස මසැසට පෙනෙන දේ සත්‍යය විය හැකි නොවේ. නැතිනම් හැමවිටම පරම සත්‍යය නොවේ. ඒ නිසා ධර්මයට බහා බැලීමෙන්ම, හේතුඵල ධර්මයට බහා බැලීමෙන්ම ඒවායේ පරම සත්‍යය ස්වරූපය යථාවබෝධයෙන් දැකගත යුතුය.

එකතුකර ගත් බලවත් කුණු කන්දරාව නිසාම, කෙළෙස් නිසාම, සිතෙහි අඳුරු බව නැතිනම් මෝහ පටලයෙන් සත්‍යය වැසී යාම නිසාම, හේතු ඵල දහමේ සත්‍යය ස්වභාවය, ධර්මතාව දැක ගත නොහැකි වෙයි. දැඩි මෝහයෙන්, අවිද්‍යාවෙන් වැසී අඳුරු වූ සිතක්

සහිත සත්ත්වයෙකුට, හේතු ඵල ධර්මය ගැන සිතන්නටවත් නොහැකිය. එවන් තත්ත්වයක් යටතේ පව්කම් කිරීම, අකුසල් කිරීම තරම් සතුටක්, වින්දනයක්, ප්‍රියමනාප දෙයක්, වටිනා දෙයක්, ඒ සත්ත්වයාට තවත් නැත. එවැනි පව්කම් කෙරෙහි ගිජු බවක් ඒ සත්ත්වයාගේ සිතෙහි පහළ වෙයි. එය අවිද්‍යාවේ නොදන්නාකමේ උග්‍රම තත්ත්වයයි. සෑම පව්කමක්ම, අකුසලයක්ම කරන කලට ඒවා ප්‍රියජනක, සැප සුව වින්දනයන් ලෙසම දකින්නේ, තමන් කරන, කියන, හිතන එවැනි දෙයෙහි ඵල විපාක කොයි ආකාරයකින් තමාටම ආපසු ලැබේදැයි, යාන්තමින්වත් සිතා ගන්නට නොහැකි වීම නිසාමය. එය මෝහයයි. වෙන කෙනෙකුට වන අසාධාරණය හෝ අවැඩ, ස්වභාව ධර්මයට වන අවැඩ හෝ අසාධාරණය, සමාජයට වන අවැඩ හෝ අසාධාරණය ගැනවත් කිසිම තැකීමක්, දැනීමක් නැති වන්නේ, ඒ අවස්ථාවේ ලබන තෘප්තිය, ප්‍රියමනාප බව මතම පමණක් තීරණය කර, නිගමනය කර කටයුතු කිරීම නිසයි. එය මෝහයයි.

ධර්මාවබෝධය යනු, තමා කරන, කියන, හිතන මෙවන් දේවල් නිසා හේතුඵල දහමට අනුව තමන්ටම ආපසු ලැබෙන ඵල විපාකවල සත්‍යය දැකීමයි. ඒ සඳහා නුවණ, ප්‍රඥාව තරමක් දුරට හෝ තිබිය යුතුය. මසැසට පෙනෙන දේ මෝහයෙන් යුතු විඤ්ඤාණයට දැනෙන දැනීම, සත්‍යයෙන් තොර මායා දෘෂ්ටියක් බවත්, මෙහි පරම ප්‍රකෘති තත්ත්වය දැකීමට, ප්‍රඥාව උපකාර කර ගත යුතු බවත්, හේතුඵල ධර්මතාවට බහා බැලීමට පුරුදු පුහුණු කරගත යුතු බවත් අවබෝධ කරගත යුතුය.

ප්‍රඥාව හා මෝහය කාසියක දෙපැත්ත මෙනි. මේ දෙකම එක සිතක එකවර පහළ විය නොහැකිය. ලෝකෝත්තර කුසල් පිරීම යනු මෝහයෙන් මිදී නිදහස් වීම, කිළිටි, අඳුරු, කුණු සළාහැර නිදහස් වීමයි. ප්‍රඥාව උදාකර ගත හැකි වන්නේ, මෙවන් කාලයක් තිස්සේ එකතු කරගත්, මුල් බැසගත් කෙළෙස් ගති උදුරා දමා, මුල් බැසගත් කුණු තට්ටු ශුද්ධ කර ගැනීමෙන් පමණි.

## ලෝකෝත්තර කුසලය

ලෝකෝත්තර කුසලය පිරීම යනු කුමක්දැයි තේරුම් ගෙන, ලෝකෝත්තර කුසල පිරීමට ප්‍රායෝගිකව කළ යුතු දේ දැන ගෙන, යථාවබෝධයෙන් කටයුතු කිරීම මෝහයෙන් මිදී නිවන් අවබෝධ කර ගැනීමයි. ලෝකෝත්තර කුසල් පිරීම යනු, කිසියම් දෙයක් එකතු කර ගැනීමක් නොවේ. එකතු කර ගත් කෙළෙස් ගති සළාහැර, ප්‍රහාණය කිරීමකි. ඒ නිසා ලෝකෝත්තර කුසලය, කිසිවිටකත් ඵල විපාක දෙන එකක් නොවේ. අතහැර මිදී නිදහස් වීම ඵල විපාක ද අත්හැර මිදී නිදහස් වීමකි.

සීලයෙහි සිත පිහිටුවීමෙන් ළය සිසිල් වූ විට සමාධිය, ශ්‍රද්ධාව, බුද්ධ ඥාණ ක්‍රමයෙන් වැඩෙන නිසා, ප්‍රඥා විමුක්තිය ළඟා කර ගැනීමට අනුගමනය කළ යුතු ධම්මානු ධම්ම ප්‍රතිපත්තිය බුද්ධියට වැටහෙයි. ඒ සඳහා බාහිර ගුරුවරයෙකුගේ උපදෙස්, මඟ පෙන්වීමේ අවශ්‍යතාවක් ඉන්පසු අවශ්‍ය නොවන බව බුද්ධියට වැටහෙයි.

කර්මජ කෝෂවල මෙතෙක් කලක් තිස්සේ එකතු කර ගෙන පවත්වාගෙන ආ රාග,

ද්වේෂ, මෝහ සහිත චිත්තජ ශක්තීන්, මතක සටහන් ලෙස එකතු වී රැඳී පවතී. ඒවා බය කර දමා, ප්‍රහාණය කර දමා, දවා හැර, ක්‍රමයෙන් කර්මජ කෝෂය ශුද්ධ කර ගත යුතුය. එය ලෝභක්ඛය කිරීම, ද්වේෂක්ඛය කිරීම, මෝහක්ඛය කිරීම ලෙස පෙන්වා දුන් ක්‍රියාවලියයි. පිරිසිදු චිත්ත තත්ත්වය මතු කර ගත හැක්කේ, විඤ්ඤාණ තත්ත්වයේ දී සිතෙහි පැවති කෙළෙස් ගති, සියලු කුණු දැක, ඒවා සළා හැරීමෙනි. මෙය ලෝකෝත්තර කුණු සළා හැරීම, ලෝකෝත්තර කුසලය පිරීමයි. මේ සඳහා අනුගමනය කළ යුතු ක්‍රියාමාර්ගය පෙන්වා දුන්නේ, අරිය අෂ්ටාංගික මාර්ගය පිරීම ලෙසයි. අරිය අෂ්ටාංගික මාර්ගය අනුගමනය කිරීම, නිරෝධ ගාමිණී පටිපදාව පිරීම යනු, ලෝකෝත්තර කුසලය පිරීමම මිස වෙන එකක් නොවේ. මේ සඳහා ලෝකෝත්තර සම්මා දිට්ඨියේ සිට ඇති සම්මා අංග අට පූර්ණ කළ යුතු යි.

අෂ්ටාංගික මාර්ගය පිරීම යනු සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි නමින් එන පද වැල්වල වචන කියවීම නොවේ. ඒ වචන කියවීම භාවනාවක් ද නොවේ. මේ වචන කියවීමෙන් මෙතෙක් සංසාරයේ එකතු කර ගත් කුණු සළා හැරීමක් ද සිදු නොවේ.

ලෝකෝත්තර සම්මා දිට්ඨියේ සිට සම්මා සමාධිය තෙක් ඇති අංගවල සම්මා යන වචනයේ තේරුම නිවැරදිව තේරුම් ගෙන, ප්‍රඥාවෙන් දැන, කළ යුතු ක්‍රියාවලිය අවබෝධ කරගෙන ප්‍රායෝගිකවම ඒ කිරීමෙන්ම ප්‍රඥා විමුක්තිය ලබගත හැක. "සංවරේන පහාතබ්බා" යනුවෙන් බුදුපියාණන් දේශණා කර වදාළේ මෙයයි. "සං" වලින් මිදී නිදහස් වීම සම්මා වීමයි. සංවර වීම, සංසිඳ වීම, "සංමා" වීම යනු එකතු කරගත් කුණු සළාහැර ශුද්ධ වීමමයි.

සම්මා දිට්ඨියේ සම්මා දිට්ඨිය දැක ගත යුතුයි. එය නම් "සං" එකතුවන බවත් "සං" උපදින ආකාරයත් දැක ගැනීමයි. "සං" වරා පිරිසුදුව ශුද්ධ කර ගත හැකි බවත් දැකිය යුතුයි. එය සම්මා දිට්ඨියේ සම්මා සතියෙහි පිහිටීමයි. දැකීමයි. සම්මා දිට්ඨියේ සම්මා වායාම පිරීම ඊළඟට කරගත යුතු දෙයයි. එනම් දැක ගත් "සං" වලින් මිදී නිදහස් වීමට වායාමයක්, උත්සාහයක් දැරීමයි.

සම්මා සංකප්ප යනු "සං" වලින් මිදෙන්නට ගත යුතු පියවර ගන්නට "සං" උපද වන කාල පරාසය දැකිය යුතුයි යන්නයි. නෙක්ඛම්ම, අවිහිංසා, අව්‍යාපාද යන තත්ත්වයට පත් විය හැක්කේ, කුණු සළාහැර "සං" එකතු කිරීම නැවැත්වීමෙන් පසුව බව දැක, සම්මා සංකප්පයේ සම්මා දිට්ඨියත්, සම්මා සංකප්පයේ සම්මා සතියෙහි පිහිටීමත් සිදු වූ පසු, සම්මා සංකප්පයේ සම්මා වායාමය පිරිය යුතුය.

සම්මා වාචා සඳහා ද "සං" එකතු කිරීම නවත්වන කුණු සළා හරින වචන, සම්මා වාචාහි සම්මා දිට්ඨියෙන් දැක, සම්මා වාචා සඳහා සම්මා සතියෙහි පිහිටා, සම්මා වාචා පවත්වාගෙන යාමට සම්මා වාචාහි, සම්මා වායාමය පිරිය යුතුයි.

සම්මා කම්මන්තයෙහි ද සම්මා දිට්ඨිය දැක, සම්මා කම්මන්තයෙහි සම්මා සතියෙහි

පිහිටා, සම්මා කම්මන්තයෙහි සම්මා වායාමය පිරීමෙන්, කුණු සහිත සියලු ක්‍රියාවන් සළා හැර ශුද්ධ විය හැකිය.

සම්මා ආජීවය යනු දිරණ, ජරාවතක් පැවැත්වීම සඳහා උපකාර වන දේ දැක, සම්මා ආජීවයේ සම්මා දිට්ඨිය අවබෝධ කර ගෙන, සම්මා ආජීවයේ සම්මා සතියෙහි පිහිටා, සම්මා ආජීවයේ සම්මා වායාමයෙහි යෙදිය යුතුය.

මේ ආකාරයෙන් සම්මා වායාමය හා සම්මා සතියද සම්පූර්ණ කරගත් පසු සම්මා සමාධියෙහි පිහිටීම ඉබේ ම සිදුවන දෙයකි. අනිකුත් අංග පූර්ණ කර සියලු "සං" වලින් මිදී, කුණු සළාහැර නිදහස් ව පිරිසිදු වූ කළ එය සම්මා සමාධියට පත් වීමයි.

සම්මා සමාධියට පත් වීමෙන් සම්මා ඥාණ ලැබෙයි. මෝහයෙන් තොර ප්‍රඥාව උදා වෙයි. සම්මා ඥාණ නිසා සම්මා විමුක්තිය ලැබෙයි. මෙය චේතෝ විමුක්තිය හා ප්‍රඥා විමුක්තිය දෙකම පූර්ණ වීම යි. නිවන් දැකීම යි.

## පින් පැමිණ වීම හා මෙත් වැඩීම

පුද්ගලයෙකු, සත්ත්වයෙකු තම චිත්තසංථානයේ උපදින සංඛාරවලින් චිත්තජ ශක්තීන් උපදවා ගනී. අවස්ථා නවයම, ආදී නවය පසු කර චිත්තජ රූප ලෙස බිහි වී කර්මජ රූප ලෙසින් ඒ ඒ සත්ත්වයාගේම කර්මජ කෝෂයේ තැන්පත් වෙයි. සෑම සත්ත්වයෙකුටම මතු ඵල විපාක ලැබීමට උරුම වන මේ කර්මජ රූප, පින් - පව්, අකුසල් ආදී ලෙස බෙදා වෙන් කළ හැකි බව මුලින් ද පෙන්වා දුනි. මෙසේ තැන්පත් වී පවතින කර්මජ රූපයන්, කර්මජ ශක්තීන්, අවස්ථාවක් ලද වහාම ඵල විපාක ලබා දෙයි. අපි පින් - පව්, අකුසල් ලෙස හඳුන්වන්නේ ඒ ඒ සත්ත්වයාම, තම තමන් විසින්ම දැන හෝ නොදැන හෝ රැස් කර ගත් දේය. තම තමන්ම නිපද වූ කර්මජ රූප, කර්මජ කෝෂයේ පවතිනා තුරාවට, ඒවාවල විපාක ලැබීම ද නිරතුරුවම උරුමයෙන්ම ලැබෙයි. නැතිනම් කර්මජ රූප ගෙවා නිම කර දැමීම සඳහාම නැවත නැවතත් උපතක් ලබයි.

ඒ ඒ සත්ත්වයා තමා විසින්ම උපදවා තැන්පත් කර ගන්නා කර්මජ රූපවලට අමතරව ඵල විපාක ලැබිය හැකි බාහිරයෙන් ලැබෙන චිත්තජ ශක්තීන් කොටසක් ද තිබේ.

පහන් සිතින් පින්කමක් කර ගත් කෙනෙකුට ඒ පින් තවත් කෙනෙකුට පැවරිය හැකිය. මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා ගුණ පතුරුවා මෙත් වැඩිය හැකිය. එමෙන්ම වෛරී සිත උපදවා ශාප කළ හැකියි. මේ සියල්ල චිත්ත ශක්තීන් ය.

මේවාද චිත්ත ශක්තියෙන්ම ගොඩනගා ගත් කර්මජ රූප නිසා ඒවායෙහි ද යම්කිසි බලපෑමක් තිබේ. තමාට මෙන්ම බාහිර ලෝකයට ද මේ බලපෑම ඇත.

පින්කමක් කර තම ඥාතියෙකුට, මිත්‍රයෙකුට හෝ පොදුවේ සියලු ලෝක සත්ත්වයාට ම ඒ පින පැවරිය හැකිය. ලබාදිය හැකිය. පින්කමක් කර ඉන් උපදවා ලත් පින්

තවත් කෙනෙකුට පැවරූ නිසාම, පින්කම කළ පුද්ගලයාටත් පින් පැවැරෙන සත්ත්වයාටත් දෙදෙනාට ම එහි ඵල විපාක ලැබෙයි. පින් දීම නිසා, පින් පැවරීම නිසා, පින්කම කළ පුද්ගලයාගේ කර්මජ කෝෂයේ තැන්පත් වන කර්මජ ශක්තිය, ගුණාකාරයෙන් බලවත් වෙයි. පිනෙහි ඵල විපාක බලවත් වෙයි. ඥාතියෙකු මිය ගිය පසු දන් පින්කම් කර පින් පවරන්නේ, පින් අනුමෝදන් කරන්නේ මේ පරමාර්ථය ඇතිවය. මෙහි ඵල විපාක සොයා බැලුවොත් පින් පැමිණ වීම ද, පැතිර වීම ද, පින් පිහිටු වීම ද චිත්ත ශක්තියකින් ම කළ යුතුය. දුන් දානමානාදියෙහි භෞතික ලොකු කුඩාකම් අනුව නොව, චිත්ත ශක්තියෙන් පැතිරූ චිත්ත කිරණවල ප්‍රමාණයෙන්, චිත්ත ශක්තියේ ශක්ති ප්‍රමාණය අනුවම පින් පැවැරුණු පුද්ගලයාට පින් පිහිට වෙයි. මෙහිදී ද වචී සංඛාර, කාය සංඛාර, මනෝ සංඛාර ක්‍රියාත්මක වී, චිත්තජ රූප බිහි වී, කර්මජ රූප බවට පත් වී ඵල විපාක ලබාදෙයි.

එසේ පවරන පින්, පින් පැවරෙන පුද්ගලයාට හෝ සත්ත්වයාට හෝ  උපකාර වන, පිහිට වන ආකාරය ද සළකා බැලිය හැකිය. පින් ලබා ගැනීමට සුදුසු පරිසරයක, සුදුසු උප්පත්තියක් ලබා සිටින කෙනෙකුට ද මේ පින් පහසුවෙන්ම ලැබෙයි. පින් බලාපොරොත්තුව සිටිනා කෙනෙකුටද මේ පින් ලබා ගත හැකිය. එවන් ඥාතියෙකුට, මළගිය කෙනෙකුට පින් පැවරූ මොහොතේ පටන්ම පින් ඵල දී, අගතියෙන්, දුකින් මිදී යාමට ඒ පින් උපකාර කර ගත හැකිය. දුගතියෙන් මිදීමට යහපත් තැනක උපත ලැබීමට මෙවන් පින්කම් උපකාර වේ. පින් ලබා ගැනීමට නොහැකි සතර අපායක වැනි තැනක උපත ලබා ඇත්නම්, එවැනි පින් පැවරුවත්, ඒ පින්කම්වල ශක්තිය ඒ දුකින් මිදවීමට ප්‍රමාණවත් නොවේ. නමුත් එවැනි පැවැරූ පින්කම් ඒ මළගිය ප්‍රාණකාරයාගේ පුණ්‍ය කෝෂවල තැන්පත් වී, අවස්ථාවක් ලැබුණු අවස්ථාවක දී ඵල විපාක ගෙන දිය හැකිය. කාලයකට පසු අහෝසි වීමට ද ඉඩ තිබේ.

සතර අපායක උපන් සත්ත්වයෙකුට තමාම කර ගත් පව්කම්වල ශක්තිය බොහෝ බලවත් නිසා ඒවා ඵල දී අවසාන වනතුරු මෙසේ වෙනත් කෙනෙකු පැවැරූ සුළු පිනක් පවා ඵලදීමට අවස්ථාව නොලැබෙන්නට ඉඩ තිබේ. අනුන් පැවරූ පින තමන් කර ගත් පාපය අභිභවා යන්නට සමත් නොවේ. කෙසේ වුවත් එවැනි ඥාතියෙකුට, සත්ත්වයෙකුට සතර අපායේ දී කිසිම පින්කමක් කර ගන්නට ඉඩක් නැති නිසා, පව් පළ දී අවසාන වුවත්, සුගතියකට පත් වන්නට නම් තම ඥාතීන්ගෙන්, මිත්‍රයන්ගෙන් පින් ලැබෙන තුරු බලා සිටිය යුතුය. ඒ නිසා මිනිසුන් වූ අප සියලු සත්ත්වයන්ට පින පැවරීම, ඒ ඒ සත්ත්වයාට කවදා හෝ උපකාර වන නිසා යහපත් ක්‍රියාවකි.

ඒ නිසා මියගිය සත්ත්වයෙකු, ඥාතියෙකු පින් ගත්තත්, නොගත්තත් පින් පැවැරීම අපතේ යන දෙයක් නොවේ. ඒ නිසා දිනපතාම තමන් කරන පින්කම්වලින් කොටසක් සියලු ලෝක සත්ත්වයා වෙත පැවරීම, පිහිටුවීම, හැම මිනිසෙකුම කළ යුතු යුතුකමකි. ඊට හේතුව පින්කම් කර ගත හැක්කේ පින් පැවරීම කළ හැක්කේ මිනිසෙකුට ම පමණක් නිසාය.

මේ පින් පැවරීම යනු තමා එකතු කර ගන්නා කුණු සළා හැරීමක් ද වන බව

ප්‍රඥාවෙන් කල්පනා කර හේතුඵල දහමට ගළපා බලන කෙනෙකුට පැහැදිළි විය යුතුය. "තිරෝකුඩ්ඩ සූත්‍රය" යනු පසුව එකතු කර ගත් ලෞකික පරමාර්ථයෙන් ලියූ එකක් යැයි විනයවර්ධනධාරීන් පවසන්නේ මේ යථාර්ථය නොදැනය.

සත්ත්වයාට සුගතියට පත් වීමටත්, දුගතියෙන් මිදීමටත්, දුකින් මිදී ලෞකික සැප සම්පත් ලැබීමටත් මේ පින් පැමිණ වීම, පින් ලබාදීම උපකාර වුවත්, නිවන් දැකීමට මෙවැනි පින්කම් කිසි ලෙසකින් උපකාර නොවන බව හැම කෙනෙකුම හොඳින් සිහිපත් කරගත යුතු ය. නිවන් දැකීමට උපකාර වන්නේ කුසලයම පමණි. එය අනුන්නට කළ හැකි දෙයක් නොවන බව දැන් වැටහී ඇත. පින්කම් කර පින් පවරනු ලබන්නාට ද මෙම පින්කමේ යහපත් ඵල විපාක ගුණාකාරයෙන් වැඩී වර්ධනය වී ආපසු ලැබෙයි. පින් පැමිණවීමේ දී නිතරම මෙත් සිතක් ද, කරුණා සහගත සිතක් ද, උපේක්ඛා සහගත සිතක් ද පතුරන නිසා, මෙයින් උපදින චිත්ත ශක්තිය, පැවරූ පින්කමෙන් ලැබෙන බලයට ශක්තියට වඩා විශාල වශයෙන් පින් පවරනු ලබන්නා වෙතම ආපසු ලැබේ. එය ලෝකෝත්තර කුසලයක් ද වෙයි.

පින් පවරනු ලබන්නා හැම විටම ආපසු යමක් බලාපොරොත්තු නොවී, පිනක් හෝ බලාපොරොත්තු නොවී, අත්හැරීමේ බලාපොරොත්තුව ඇතිවම මේ පින් පැවරීම කළේ නම්, එය ලෝකෝත්තර කුසලයක් ද වේ. ඒ පින් පවරා ඉන් නිදහස් වීමත්, මතු ඵල විපාක දීමට ඇති කුණු සළාහැර ශුද්ධ වීමත් නිදහස් වීමක්ම වන නිසාය. තමා කරගත් පව්කම් සේම, පින්කම් ද තම පුණ්‍ය කෝෂවල, කර්මජ කෝෂයේ උපාදානය කරගෙන ඉතිරි වී පවතී නම්, ඒවා ඵල විපාක දීමට ද නැවත නැවතත් උපතක් ලැබිය යුතුමය. ඒ නිසා කිළිටි දේ, කුණු සහිත දේ පහකර ශුද්ධ වන්නා සේම මෙවැනි පින්කම්වලින් රැස්කර ගත් සියලු චිත්තජ රූප ද, කර්මජ ශක්තීන් ලෙස චිත්තසංථානයේ තැන්පත් වී තිබේ නම්, ඒවා ද සළා හැරීම කුණු සළා හැරීමෙහි එක් කොටසකි. දිනපතා අනුන්ට පින් පවරා පරණ ණය ගෙවා, වන්දි ගෙවා, ලෝක සත්ත්වයා වෙත අනුකම්පාවෙන් පින් පමුණුවා, ඒවායින් ද නිදහස් වීම නිවන් දැකීමට අවශ්‍යම දෙයකි. එයද ලෝකෝත්තර කුසල් වැඩීමයි.

සිල්වතෙකුට, අරිය උත්තමයෙකුට පින් පැමිණ වීම සාමාන්‍ය ලෝක සත්ත්වයාට පින් පැමිණ වීමට වඩා ඉතා බලවත්ය. ඒ උත්තමයින් පින් බලාපොරොත්තු නැති නිසා, පින් භාර නොගන්නා නිසා එවැනි පින්කම් කිහිප ගුණයකින් බලවත් වී ආපසු පින් පැමිණවීම කළ අය වෙතම ලැබෙයි. මෙවැනි ආපසු ලැබෙන පින් ලෝකෝත්තර පින්කම් වන නිසා ඒවායේ ඵල විපාක ලෙසින් නැණ නුවණ පහළ වී කුසල් පුරා ගැනීමටත්, නිවන් මඟ අවබෝධ කර ගැනීමටත් උපකාර වෙයි.

මෙහි අනික් පැත්ත ද මෙතැන දී සළකා බැලීම වටී. සිල්වත් මහණ උතුමෙකුට, අරිය උත්තමයෙකුට, මහඅරහතුන්වහන්සේ කෙනෙකුට ආදී උත්තමයින්ටත්, බුදු, පසේ බුදුන්වහන්සේලාටත් යමෙකු අපවාද, අවමාන, හිංගි, හිංසා, වැරැදි පාප ක්‍රියා කිරීම සිතෙන්, ක්‍රියාවෙන්, කථාවෙන් යන කුමන ආකාරයකින් හෝ කළත් එය පෘථග්ජන පුද්ගලයෙකුට සංසාරයේ විඳවන්නට, ගෙවා නිම කරන්නට නොහැකි තරමේ මහා පාපයක් වේ. "අරියෝපවාදයන්" යනු මේවාය.

එයට හේතුව එවැනි උත්තමයින් ඒ සියලු දේ අංශු මාත්‍රයකින්වත් භාර නොගන්නා නිසා, උපේක්ඛාවෙන් සළකා බැහැර කරන නිසා, ඒ පාප කර්මය කළ අය වෙතම ආපසු පාරා වළල්ලක් සේ දහස් ගුණයෙන් ශක්තිමත් වී ආපසු ලැබෙන නිසාය.

සියලුම මගඵලලාභී අරිය උත්තමයන් මේ තත්ත්වය හොඳින්ම වටහා ගෙන තමන් වරදින් පාපයෙන් මිදෙන්නා සේම, අනුන්ට ද වරදක් පාපයක් කර ගැනීමෙන් මුදවාලන්නට හැම විටම සිතා මතා ක්‍රියා කරති. අරිය උත්තමයන් තමන් ලබා ගත් මගඵල පිළිබඳව පෘථග්ජන පුද්ගලයින්ට ප්‍රකාශ නොකරන්නේ ද මේ හේතුවෙන්මය. මගඵල ප්‍රකාශ කිරීමෙන් වන සීමිත යහපතට වඩා, මගඵල ප්‍රකාශ කිරීමෙන් පෘථග්ජනයා කර ගන්නා අසීමිත අරියෝපවාදයන්ගෙන් ඔවුන් වළකා ගැනීම සඳහා ම එසේ ප්‍රකාශ කිරීමෙන් වැළකී සිටී.

මෙත් වැඩීම, මෙත් සිත පැතිර වීම පින් පැමිණ වීමට වඩා දහස් ගුණයෙන් බලවත් යහපත් දෙයකි. නමුත් ඒ සඳහා අද භාවිත කරන ලෞකික මෙත් වැඩීම නොව පරම මෙත් භාවනාවක්ම භාවිතා කිරීමෙන් එකම උත්සාහයෙන්, ලෞකික කුසලයක් හා ලෝකෝත්තර කුසලයක්ද වඩා ගත හැකිය. අද භාවිතා කරන "මම නිදුක් වෙම්වා, නිරෝගී වෙම්වා, සුවපත් වෙම්වා, දුකින් මිදෙම්වා, නිවන් දකිම්වා" වැනි ලෞකික භාවනා කිසිසේත්ම ලෞකික හෝ ලෝකෝත්තර කුණු සළාහැර කුසල් පිරීමට තරම් හැකියාවක් නැති මමත්වය වඩවන එකක් පමණක් බව දැන, දැක පරම මෙත් භාවනාවක් යනු කුමක්දැයි යථාවබෝධයෙන් ම දැන, එය කරන්නේ නම් මහගු ප්‍රතිඵල ලැබිය හැකිය.

පරම මෙත් වැඩීම යනු කුමක්දැයි අසා දැන එහි තේරුම හා හරය වටහා ගෙන, සියලු ලෝක සත්ත්වයාට සම මෙත පැතිර වීම, පින් පැමිණ වීම මෙන් දහස් ගුණයකින් බලවත් ලෙස ඵල විපාක දෙන කුසල කර්මයකි. කායික, මානසික සුවයක් මෙන්ම ලෞකික, ලෝකෝත්තර කුසලයක් ද මෙත් සිත වඩවන්නාට ඉන් අයිති වෙයි.

මෙත් සිතින් සමස්ත ලෝක සත්ත්වයා වෙත සම මෙත පැතිර වීම යහපත් ප්‍රතිඵල දෙන ක්‍රියාවකි. සිතුවිල්ලකි. මෙහිද විරුද්ධ පැත්තක් ඇත. එය නම් වෛරී, ක්‍රෝධ සිතින් ලෝක සත්ත්වයා වෙත ශාප කිරීම, පළි ගැසීම, යැදීම, යාඥා කිරීම හෝ කන්නලව් කිරීම වැනි නොහොබිනා ක්‍රියාවෝය.

මෙවැනි නොහොබිනා සිතුවිල්ලක්, ක්‍රියාවක්, කථාවක් කරන පුද්ගලයා වෙතම අනිවාර්යයෙන්ම එහි ඵල විපාක ලැබෙයි. තමා කළ දේ බිහි කළ ශක්තිය අනුන් වෙත යනවාට වඩා වැඩි වේගයකින්, වැඩි ප්‍රමාණයකින් තමා වෙත ආපසු එයි. "ඒකට හෙණ හතක් වදින්න ඕනෙ," ''නයා කාල මැරෙන්න ඕනෙ", "හතරට පැලෙන්න ඕනෑ" ආදී වෛරී වචන පිට කරන විටම තමා චිත්තජ ශක්තියක් බිහි කර, තම කර්මජ කෝෂයේ එය තැන්පත් කර ගනී. එය තමාට මතු කවදා හෝ ඵල විපාක දෙන දෙයකි. තමා ද්වේෂයෙන්, ක්‍රෝධයෙන් කළ ක්‍රියාව නිසා තම චිත්තසංථානය අපිරිසිදු වීම, කිළිටි වීම ඒ මොහොතේම සිදු විය. මෝහය නිසා තමන් කළ ක්‍රියාවේ, කළ කථාවේ ඵල විපාක

තමන්ටම ආපසු ලැබෙන බව, තම සිතම කිළිටි වූ බව දැක ගත නොහැකි වෙයි. නමුත් එල විපාක නම් අනිවාර්යයෙන් තමන්ටම උරුම වෙයි.

ඒ ශාපය හෝ කතාව එල්ල කළ පුද්ගලයාට හෝ සත්ත්වයාට එය එල විපාක දෙන්නේ ඒ පුද්ගලයා හෝ සත්ත්වයා එය භාර ගතහොත් පමණි. කෝපයෙන්, වෛරයෙන් එකෙක් කළ කතාව, ක්‍රියාව බාර ගත්තේ නම්, බාරගත් පුද්ගලයාට ද එවෙලේම එල විපාක විඳිය හැක. ඒ තම සිත ද කිළිටි තත්ත්වයට පත් වී, වෛරී චිත්තජ ශක්තියක් බිහිකර, එවන් කර්මජ ශක්තියක් තම කර්ම කෝෂයේ ද තැන්පත් කර ගත් හෙයිනි.

නමුත් එවැනි ශාප, වෛරී ක්‍රියා භාර නොගෙන බැහැර කරන, උපේක්ඛාවෙන් ඉවසා වදාරණ කෙනෙකුට එහි එල විපාක කිසිවක් බලනොපායි. අරිය උත්තමයෙකු, මඟ එල ලාභියෙකු කිසි විටකත් මෙවැනි දේ කිසි ලෙසකින් භාර නොගන්නා නිසා, එවැනි උත්තමයෙකුට වෛරී සිතින්, ක්‍රෝධයෙන් යමක් කීවොත්, කළොත් පමණක් නොව එවැනි සිතුවිල්ලක් සිතූ පමණින්ම, එය ඒ උත්තමයා අංශු මාත්‍රයකින් හෝ ඒ භාර නොගන්නා නිසා, ඒ ක්‍රියාව කළ තැනැත්තා වෙතම ආපසු පාරා වළල්ලක් සේ එල විපාක ලැබෙයි. ඒ නිසා නිතරම එවැනි නොහොබිනා ක්‍රියාවලින්, සිතුවිලිවලින් වැළකී, ඒවා භාර නොගෙන සිටීම යහපත්ය.

දහසක් පින්කම් කරනවාට වඩා කුණු එකතු කර ගන්නා අකුසල්වලින් වැළකී සිටීම සුදුසුය. බලවත් පාප කර්ම නිතරම දිගුකාලීනව එල විපාක දීමට හේතු වන බැවින් සුළු පින්කම් හෝ අනුන් පවරන පිනෙන් හෝ ඒවා යටපත් කළ නොහැකිය.

පින්කම් කිරීම, කුසල් වැඩීම හා මෙත් සිත පැතිර වීම යනාදියෙහි තේරුම නිවැරදිව වටහා ගෙන, තෝරා බේරා භාවිතා කිරීමෙන්, චේතෝ විමුක්තියත්, ප්‍රඥා විමුක්තියත් ලබා නිවන් අවබෝධ කර ගැනීමට හැම මිනිසෙකුටම උපකාර වේ.

මෙහි සඳහන් කරන්නට යෙදුණු කරුණු කාරණා කිසිවෙකුගේ හිත රිදවන්නට හෝ කාට හෝ දෝෂාරෝපණයක් කරන්නට හෝ කාගේ හෝ සම්පත් අහිමි කරන්නට හෝ ජනප්‍රියත්වය නැති කරන්නට හෝ එවන් කිසිඳු බලාපොරොත්තුවකින් ලියූ දේ නොවේ. නිවන් අවබෝධ කර ගන්නට, විමුක්තිය ලබා ගන්නට ඒ ශ්‍රේෂ්ඨ විද්‍යාඥයා ඉදිරිපත් කළ පරම පවිත්‍ර සිරි සද්ධර්මය මිනිසෙකුට මනස මෙහෙයවා අදද අවබෝධ කරගත හැකි තත්ත්වයක පවතින බව පැහැදිළි කර දෙන්නට ගත් උත්සාහයක් පමණි. ලෝකය පුරා සිටින බුද්ධ ධර්මය සොයා යන පින්වත් පිරිසට ධර්මය කුමක්ද, අධර්මය කුමක් දැයි තෝරා බේරා ගැනීමට යම් පිටිවහලක් ලැබෙයි නම්, ඒ ප්‍රතිඵලය සෑහීමට පත් විය හැකි එකකි. බුද්ධියෙන් සිතා බලා නිවැරදි දේ ගෙන, වැරැදි දේ අතහැර කටයුතු කිරීම විමුක්තියයි. ඒ සඳහා මිනිසුන් පුහුණු කිරීම බුද්ධ ධර්මයයි.

* * * * * * * * * * *

# සිත, විඤ්ඤාණය, මනස හා චිත්තය

බුද්ධ ධර්මය යනු, මිනිස් ඉතිහාසයේ එදා මෙදා තුර සත්ත්වයෙකුගේ සිත පිළිබඳව සර්ව සම්පූර්ණ විග්‍රහයක් ඉදිරිපත් කළ එකම විද්‍යාවයි. මිනිසෙකුට තේරුම් ගන්නට හැකි තරමට සරළ බසිනුත්, මනසින් කල්පනා කර වටහා ගන්නට හැකි සේ විස්තර සහිතවත්, විග්‍රහ කළ බුද්ධ දේශණාවට වැඩි මනත් යමක් සිත පිළිබඳව පැවසිය හැකි බුදුවරයෙකු හැර, වෙනත් කිසිම විද්‍යාඥයෙකු, මිනිසුන්, දෙවියන් සහිත ලෝකයා අතරින් කවදාවත් මතු බිහිවිය හැකි වන්නේ ද නොවේ.

සිත, යන වචනය සිංහල භාෂාවේ සම්මත ලෝක ව්‍යවහාරයේ පවතින වචනයක් මිස, බුද්ධ භාෂිතයේ භාවිත කළ පදයක් නොවේ. බුද්ධ භාෂිතයෙහි සිත විග්‍රහ කරන්නට යොදාගත් පද අතරින් විඤ්ඤාණය, මනස, චිත්ත යන මූලික පද තුනක් සමග පද නවයක්ම විභංගප්‍රකරණයේ පෙන්වා දී ඇත. බුද්ධ භාෂිතයෙහි පෙන්වා දුන් සිතෙහි අවස්ථා සියල්ලම විග්‍රහ කරන්නට, සිංහල භාෂා ව්‍යවහාරයේ දී සිත යන එකම වචනය පමණක්ම භාවිත කිරීම නිසා, කෙනෙකුට සිත පිළිබඳව යථාර්ථය තේරුම් ගැනීම ද තරමක් අපහසු තත්ත්වයට පත් වී ඇත. බුද්ධ ධර්මය නිවැරදි ලෙසත්, නිරවුල් ලෙසත් තේරුම් ගන්නට අවංකවම උත්සාහ ගන්නා සියලුම දෙනා බුද්ධ භාෂිතයෙහි සිත විග්‍රහ කරන්නට භාවිත කළ මූලික පද කිහිපයකවත් නිවැරදි අර්ථය තේරුම් ගත යුතුය.

බුද්ධ ධර්මය සොයා දැන බුදුපියාණන් දේශණා කර ඉදිරිපත් කළේ, සිත පිළිබඳව ප්‍රත්‍යක්ෂ අවබෝධයක් ලබා, සිත ක්‍රියාත්මක වන විවිධ ස්වරූපයන් ද හොඳින් තේරුම් ගෙන, නිරන්තරයෙන්ම විඤ්ඤාණ තත්ත්වයෙන් කිළිටි වී පවතින සිත පාරිශුද්ධ තත්ත්වයට පත්කරගෙන, විඤ්ඤාණ තත්ත්වයෙන් මිදී නිදහස්ව ප්‍රඥාව උපදවා පහදා ගැනීමට මිනිසුන්ට මඟ පෙන්වීම සඳහායි. මෙයම සිත නිවීමයි, නිවනයි. ස්වභාවිකවම කිළිටි තත්ත්වයෙන් පවතින විඤ්ඤාණය, කිළිටි තත්ත්වයෙන් මුදවාගෙන පාරිශුද්ධ තත්ත්වයට පත්කර ගත්විට, සිත යැයි ලෝක සම්මතයෙහි භාවිත කරන මේ විඤ්ඤාණයට තව දුරටත් එම තත්ත්වයෙන් ජීවත් විය නොහැකිය. ජීවත්වීම යනු ජරාවට පත්වන, දිරායන, විපරිණාමයට පත්වන ස්වභාවයයි. ගමන් කරන රිය ස්වභාවයයි. එය සංසාර ගමනයි. එය විඤ්ඤාණයේ ස්වභාවයයි.

විඤ්ඤාණය යනු සිතෙහි එක්තරා ශක්තියකි. තත්ත්වයකි. අවස්ථාවකි. බුද්ධ ධර්මය හදාරන, නිවන් මඟ සොයන හැම මිනිසෙකුම විඤ්ඤාණ තත්ත්වයෙන් පවතින තම සිත ගැනම යථාවබෝධයක් ලබාගත යුතුය. විඤ්ඤාණය (වි+ඥාණය) යන පදයෙහි තේරුම, විවිධ වූ, විෂම වූ, විකෘත වූ දැනුම් ලබාදෙන සිත යන්නයි. සංඥා මඟින් ඉන්ද්‍රියයන් හරහා මනසට දැනෙන දැනුම වෙන්කර හඳුනා ගන්නට උපකාර වන සිත විඤ්ඤාණයයි. ඒවාගේම මොහොතක් මොහොතක්, චිත්තක්ෂණයක් චිත්තක්ෂණයක් පාසා විවිධ තත්ත්වයන්ට, විෂම තත්ත්වයන්ට, විකෘත තත්ත්වයන්ට පත්වෙන්නට හැකි සිත විඤ්ඤාණයයි. විඤ්ඤාණයේ නියත ගති ලක්ෂණය, වෙනස්වන සුළු ගති ලක්ෂණයයි. දොම්නසට, සොම්නසට, උදහසට, උද්දාමයට, උද්වේගයට, ශෝකයට, භයට

පත්වන සිත විඤ්ඤාණයයි.

විඤ්ඤාණ තත්ත්වයෙන් යුතු සිතක නියත ගති ලක්ෂණය, ගති ස්වභාවය එකතු කිරීමයි. නාම - රූප (ගත-හිත) දෙක එකතුකර පුද්ගලයෙකු, සත්ත්වයෙකු නිර්මාණය කළේ ද විඤ්ඤාණයයි. ආපෝ, තේජෝ, වායෝ, පඨවි, ආකාශ යන ධාතු කොටස් එකතුකර, ගත-හිත යනුවෙන් අපි හඳුන්වන මේ "වත", කූඩුව සකස් කර ගත්තේ ද විඤ්ඤාණයමයි. රූප, වේදනා, සංඥා, සංඛාර යන කොටස් පංචස්කන්ධයට එකතු කර සකස් කර ගත්තේ ද විඤ්ඤාණයමයි.

උපන් හැම සත්ත්වයෙකුටම නියත වශයෙන්ම විඤ්ඤාණයක් තිබේ. විඤ්ඤාණයක් නොමැතිව සත්ත්වයෙකුට උපතක් ලැබිය නොහැකිය. පංචස්කන්ධය ලෙස පෙන්වන උපාදානය කරගත් කොටස් පහෙන් විඤ්ඤාණය ලෙස හඳුන්වන කොටස සිතෙහි එක්තරා අවස්ථාවකි. එය චිත්ත අවස්ථාව නොවේ. මේ තත්ත්වය පැහැදිළි කරගැනීමට, නිරාකරණය කරගැනීමට නොහැකි වීම නිසා අද බොහෝ දෙනා චිත්තය, විඤ්ඤාණය ලෙසම වැරදි ලෙස විග්‍රහ කරති.

විභංගප්‍රකරණයේ සිත පිළිබඳව කර ඇති විග්‍රහයේ දී චිත්ත යනු පිරිසිදුම අවස්ථාවයි. ඊට පසු මනෝ, මනසං (මනස) ලෙසත් හදයං, පංඩරං, මනායතනං, මනින්ද්‍රියං ලෙස ඊළඟ අවස්ථාත්, අවසාන ලෙස විඤ්ඤාණයත්, විඤ්ඤාස්කන්ධයත් පෙන්වා දී ඇත.

චිත්තය පිරිසිදුම අවස්ථාව නම් විඤ්ඤාණය යනු, එයම අපිරිසිදුව කහට ගැන්වුණු කිළිටි වූ අවස්ථාවක් ලෙසින් විග්‍රහ කර ඇත. මෙය උදාහරණයක් මඟින් පැහැදිළි කරගත යුතුය. චිත්ත අවස්ථාව ඉතා පිරිසිදු පැහැපත් ජලය මෙනි. මේ ජලයට කහට, සීනි, කිරි වැනි විවිධ දේ මිශ්‍ර වී අපැහැදිළි, කිළිටි කහට තත්ත්වයට පත්වූවොත්, ඒ ජලයෙහි පිරිසිදු බව නැතිව යයි. විඤ්ඤාණයද මෙවැනි කිළිටි තත්ත්වයක් සේ පෙන්වා දිය හැක. පිරිසිදු සිත (චිත්ත) රාග, ද්වේෂ, මෝහ එකතු කර ගැනීම නිසා කිළිටි වී, කහට ගැන්වීම නිසා බිහිවන තත්ත්වයට විඤ්ඤාණය යයි කියමු. මේ තේ කහටවලද ඇත්තේ අර කලින් පිරිසිදුව තිබූ ජලයමය. දැන් ජලය පිරිසිදු නැත. පැහැපත් නැත. විඤ්ඤාණයත් එවැනිමය. පිරිසිදු චිත්තය දැන් නැත. චිත්තය කිළිටි වූ පසු එය විඤ්ඤාණය ලෙස නම් කරයි.

මේ මුළු විශ්වයෙහිම විද්‍යාමාන වන සියලු දේ දකින්නට, අසන්නට, ස්පර්ශ කරන්නට, රස විඳින්නට ලැබෙන සියලු දේ (සබ්බේ ධම්මා), සිතින් නිපදවා ගත් මනස්කාර පමණකැයි අසන්නට ලැබුණහොත් ඔබ එය විශ්වාස නොකරනු ඇත. නමුත් සත්‍යය එයයි. මේ ගැන තව දුරටත් ගැඹුරෙන් විග්‍රහ කර ගත යුතුය. මේ විශ්වයේ (සක්වල) උපන්, ජීවත් වන සත්ත්වයා තම විඤ්ඤාණ ශක්තියෙන්ම බිහි කර ගත්, උපදවා ගත් සංඛත (සකස්කර ගත් දේ) මිස වෙනත් කිසිවක් මේ මිහිපිට නැත. සත්‍යය තත්ත්වය එයයි. මේ සත්‍යය වටහා ගත හැක්කේ හේතුඵල ධර්මය නිවැරැදිව දැකීමෙනි.

හේතුවක් නැතිව කිසි ලෙසකින්, කිසි තැනක, කිසි දිනක කිසිම දෙයක් බිහි විය නොහැකිය. හේතු නිසා බිහි වූ දෙය, ඒ හේතුව නිපද වූ ශක්තිය අවසන් වනවාත් සමඟම, ශක්තිය ගෙවීයත්ම විනාශයට පත්වෙයි. මේ හේතු බිහි කරන එකම උල්පත, එකම ශක්ති

ප්‍රභවය, ජීවත් වන සත්ත්වයාගේ විඤ්ඤාණ ශක්තියයි. උපන් හැම සත්ත්වයෙකුම තම සිතින්, විඤ්ඤාණයෙන් යම් ශක්ති විශේෂයක් උපදවයි. විශ්වයේ චිත්ත ශක්තියෙන් පරිබාහිර වෙනත් කිසිඳු ශක්ති ප්‍රභවයක් පෙන්විය හැකි කිසිම ජගතකු මිහිපිට නැත. එසේ පෙන්වීමට නොහැකි වීම නිසාම, සියල්ලෙහි මැවුම්කරු දෙවියෝය, මහා බ්‍රහ්මයාය වැනි ප්‍රකාශ කරති. ඒ දෙවියන් මෙන්ම බ්‍රහ්මයන්ද මේ සත්ත්ව කොටසටම අයිතිය. අපේම කෙනෙකි. පෙර දෙවියකු, බ්‍රහ්මයෙකු නොවූ කිසි කෙනකු අප අතර නැත. ඒ නිසා අපට ඇති චිත්ත ශක්තියට වෙනස් ආකාරයක ශක්ති විශේෂයක් කිසි දෙවියෙකුට හෝ බ්‍රහ්මයෙකුට පහළවිය නොහැකිය.

මේ දැන් පවතින ලෝකයද, පෙර පැවති ලෝකයද, මතු බිහිවන සියලු ලෝකද විද්‍යාමාන වීමට එකම හේතුව, මෙහි ජීවත් වන සත්ත්වයා තම විඤ්ඤාණ ශක්තියෙන් බිහිකරගත් දේම මිස වෙනත් බලයක් නොවේ.

සත්ත්වයා පුද්ගලිකවත්, සාමුහිකව පොදුවේත් බිහිකළ හේතු, චිත්ත ශක්තීන් ලෙස බලගැන්වී ක්‍රියාත්මක වීමක් මිස මේ පැවැත්ම යනුවෙන් ගෙන හැර දක්වන ලෝකයෙහි තේරුම් ගත නොහැකි වෙන දෙයක් නැත. ඒ ඒ හේතු බිහිකළ අය වෙතම ඵල විපාකද ආපසු ලැබේ.

මේ සක්වල තුළ ජීවත්වන සියලු සත්ත්වයෝ තම සිත් වලින්ම ජනිත කරගත් ශක්තීන් "සංසාරයි" කියා පවත්වාගෙන යති. සිතුවිලි වල ශක්තියෙන්ම තම විඤ්ඤාණය තම කය නිපදවා ගනී. විඤ්ඤාණය තමන්ගේ පැවැත්මට කුඩුවක් සාදාගනී. ඒ නිසාම මෙය ශරීර කුඩුව යයිද හඳුන්වයි. කුඩුවක් නැති විටක විඤ්ඤාණයට පැවතිය නොහැක. සිතක් නැති විටක කය පැවැත්මක්, ජීවයක් ඇති දෙයක් නොවන්නේ ද ඒ නිසාමය. සිත පමණක් ඇති බඹලොව හා කය පමණක් ඇති බ්‍රහ්ම ලෝක ගැන පොත්වල සඳහන් වුවත් එය සම්මත විග්‍රහයක් පමණි. විඤ්ඤාණය අසංඥ වූ හෝ විසංඥ වූ තත්ත්වයක් යටතේ උපදින්නේ මෙවැනි ලෝකවලය. විඤ්ඤාණයේ ක්‍රියාකාරීත්වය තාවකාලිකව අක්‍රිය වූ පසු මෙවැනි ලෝකවල උපදී. මෙය නිවන් දැකීම නොවේ.

අපට පෙනුනත් නැතත් සියලුම සත්ත්වයෝ තම විඤ්ඤාණයේ පැවැත්මට උපකාර වන ලෙස ශරීර කුඩුවක් සකස්කර ගෙන ඇත. එය ඒ ඒ සත්ත්වයින් තම චිත්ත ශක්තියෙන්ම සකස් කර ගත් දෙයකි. මෙහි කිය යුතු වැදගත්ම දේ නම් මේ සියල්ල යම් රටාවකට අනුවම සිදුවන බවයි. බුදුපියාණන් පෙන්වා දුන් ඒ නියාමය, රටාව, ධර්ම නියාමය, කර්ම නියාමය, චිත්ත නියාමය, බීජ නියාමය, ඍතු නියාමය ලෙස හඳුන්වයි. මේවා සත්‍යය ධර්මතාවයෝය. මෙම නියාමයන්ට පිටින් කිසිවක් සිදු වෙතැයි, සිදුකළ හැකියැයි යමෙකු පැවසුවොත් ඒ ධර්මය නොදැනීමය. හේතුඵල ධර්මය පිළිබඳව සත්‍යය නොදැනීම යනු මේවා නොදැනීමයි.

තම තමාගේ පැවැත්ම අවශ්‍ය නිසාම ඒ (ස්ව බව) තම තත්ත්වය දැරීමට යෝග්‍ය පරිදි පොදුවේ බිහිකරගත් දේ, ස්වභාව ධර්මයයි අපි හඳුන්වමු. මේ ස්වභාව ධර්මය යැයි අපි හඳුන්වන දේ, ඒ ඒ සත්ත්වයින් පෞද්ගලිකවත්, පොදුවේත් තම පැවැත්ම සඳහාම ඊට

උපකාර කර ගැනීමට සකස්කර ගත්, බිහිකර ගත් දේ මිස දෙවියෙකු හෝ විශ්වකර්මයෙකු හෝ මැවූ දේ නොවේ. මේ ස්වභාව සම්පත් බිහිකළ චිත්ත ශක්තිය, පොදු චිත්ත ශක්තියයි. ඒ නිසා ස්වභාව ධර්මය ලෙසද හඳුන්වන්නේ, සත්ත්වයා තම චිත්ත ශක්තියෙන්ම නිර්මාණය කරගත්, තම තමන්ටම උපකාර වන දේමය.

බුදු දහම හේතුඵල ධර්මය විග්‍රහ කිරීමකි. හේතුවක් නැති තැන ඵලයක් නැත. හේතුවක් ඇති තැන ඵලයක් විපාකයක් අනිවාර්යය. හටගත් හැම සංඛාරයකම හටගැනීමට පාදක වූ නිදාන වූ හේතුවක් ඇත. මේ හේතු ලෙස බුදු දහමේ පෙන්වූයේ වෙන දෙයක් නොවේ. විඤ්ඤාණ ශක්තියක්ම පමණි. ක්‍රියාවක් හෝ වචනයක් හෝ ලෙස පිටකරන සියලු හේතුද සිතෙන්ම උපදවාගත් ඒවාය. සිත නැතිව මේ කයට කිසිවක් කළ නොහැකිය. සිතෙන්, ක්‍රියාවෙන්, වචනයෙන් යම් සත්ත්වයෙක් නිපදවන සංඛාර, ශක්තීන් ලෙස, හේතු ලෙස විශ්වයට නිකුත් කරයි. එහි යම් ශක්තියක් ගැබ් කළ නිසා, ඒ ශක්තිය ගෙවී අවසාන වනතුරු විපාකයක් ලෙස ඵලය ලැබෙයි. කර්ම නියාමයට අනුව හේතුව බිහිකළ පුද්ගලයාටම ඵලය ලැබෙයි. විපාක ලැබෙයි.

ඒ බිහිකරන ශක්තියට අනුරූප වූ, ඊටම උරුම වූ විපාකයත් ඵලයත් ලැබෙන නිසා "බීජ නියාමය" ලෙසින් එය හඳුන්වයි. හේතුව බිහිකළ ශක්තිය පවතින තුරු විපාකදී, බිහිකළ ශක්තිය අවසාන වනවාත් සමගම බිහිකළ දේ, උපන් දේ, වැනසී විනාශ වී මැරී යයි. එය "ධර්ම නියාමයයි". පටිච්චසමුප්පාද ධර්මයෙන් පැහැදිළි කරන්නේ ද මේ ධර්මතාවමයි.

දෙවියන්, මිනිසුන්, බ්‍රහ්මයින්, අමනුස්සයින් ආදී විවිධ ස්වරූපවලින් පෙනී සිටින සත්ත්වයාට, නිවන් දකින තුරු තමන් කැමති වුවත් නැතත් කුමන ආකාරයේ උත්සාහයකින් හෝ විනාශයකින් හෝ මේ සංසාර පැවැත්මෙන් ඉවත් වී ගිය නොහැකිය. ලෝක විනාශ දහසක් සිදු වුවත්, එහිදී සිදු වන්නේ විඤ්ඤාණය සාදාගත් කුඩුව (ගත) විනාශ වී යනවා මිස චිත්ත ශක්තිය විනාශ වීම නොවේ. ලෝක විනාශයක දී සිදු වන්නේ, චිත්ත ශක්තියෙන් වායු කසිනයට සමවැදී, ආභස්සර බ්‍රහ්ම ලෝක තලයන් හි ඉපැදී පසුව මෙළොවට යළි පාත් වීමයි.

විඤ්ඤාණය ශක්තීන් අලුතින් උපදවනතාක් කල් සිත පවතින නිසා, උපදවන උපදවන හේතුවට, ශක්තියට, ඵලයක්, විපාකයක් ඒ ඒ සත්ත්වයාට උරුමය. කැමති වුවත් නැතත් තම උරුමය තමන්ටම ලැබෙයි. තමන් නිපද වූ හේතුවට උරුම වූ ඵලය, විපාකය තමාම විඳිය යුතුය.

හැම සත්ත්වයෙකුම, භූතයෙකුම, ප්‍රාණියෙකුම උපන්දා සිට මරණ මොහොත දක්වා ම, මුළු වෙර වීරිය යොදා කටයුතු කරන්නේ යමක් එකතු කර ගැනීමේ එකම පරමාර්ථයෙනි. මෙලෙස එකතු කිරීමක් නොකරන සිතක විඤ්ඤාණ තත්ත්වයේ පැවැත්මක්ද නැත. විඤ්ඤාණයේ පැවැත්ම දිගටම පවත්වාගෙන යාම සහතික කර ගැනීම සඳහාම විඤ්ඤාණය එකතු කිරීම කරයි. මේ ප්‍රකාශය තුළ ඉතාම ගැඹුරු, ඉවසීමෙන් තෝරා බේරා වටහා ගත යුතු, හැදෑරිය යුතු, අවබෝධ කරගත යුතු සත්‍යය ධර්මයක් ගැබ් වී

ඇත. නිවන් අවබෝධ කර ගැනීමට උපකාරීවන බුද්ධ ධර්මය තේරුම් ගත හැකි වන්නේ, විඤ්ඤාණයෙන් කරන නිරන්තර එකතු කිරීමේ ක්‍රියාවලිය ගැන පූර්ණ හැදෑරීමක් කිරීමෙන් ය.

මිනිසකුගේ, සත්ත්වයෙකුගේ සිතක බලාපොරොත්තු උපදින්නේම සිත විඤ්ඤාණ තත්ත්වයේ පවතින නිසාමය. විඤ්ඤාණ තත්ත්වයෙන් නොපවතින සිතක කිසිම ආකාරයක බලාපොරොත්තුවක් කිසිසේත්ම බිහිවීමට අවකාශ නැත. බලාපොරොත්තුවක් යනු ඌන තත්ත්වයක්, හිඟ තත්ත්වයක්, අඩුපාඩුවක් ඇති නිසාම ඒ අඩුව පුරවා ගන්නට, එකතු කර ගන්නට ඇතිවන බලාපොරොත්තුවකි. මතු යළි උපදින බලාපොරොත්තුවක් හට ගන්නේ, මියයන විට විඤ්ඤාණ තත්ත්වයෙහි පවතින සිතකය. එසේ නම්, උපතක් ලැබූ හැම සත්ත්වයෙකුම, ප්‍රාණියෙකුම, භූතයෙකුම, දෙවියෙකුම උපතක් ලබන්නේ, සිත විඤ්ඤාණ තත්ත්වයෙන් ක්‍රියාත්මක වන නිසාමය. බුදුපියාණන්වහන්සේලා මෙන්ම නිවන් අවබෝධ කරගත් සියලුම අරහතුන් වහන්සේලා ද මිනිසුන් ලෙස උපත ලැබූයේ, සිත, විඤ්ඤාණ තත්ත්වයෙන්ම ක්‍රියාත්මකව පැවති නිසාය. විඤ්ඤාණ තත්ත්වයෙන් ක්‍රියාත්මකව නොපවතින සිතකින් කිසිම ආකාරයක එකතු කිරීමක් කරන්නට ද නොහැකි නිසා, බලාපොරොත්තු හට ගන්නේ ද නැත. නාම - රූප එකතුකර කුඩු හදන්නට හැකි ශක්තියද නැත. ශුද්ධාෂ්ටක එකතුකර වතක් සකස්කර ගන්නට ද නොහැකිය.

විඤ්ඤාණය සහිතවම උපත ලත් බෝධිසත්ත්වයන් වහන්සේලා මෙන්ම සියලුම අරහත් තත්ත්වයට පත් උත්තමයින් ද තම සංසාර ක්‍රියාකලාපයන් වෙනස්කර ගෙන ඒ අනුවම සිත ශුද්ධ පවිත්‍ර කරගෙන, කෙළෙස් එකතු කිරීමෙන් පූර්ණ ලෙස මිදී නිදහස් වී, බලාපොරොත්තු අතහැර, ඉන් මිදී, විඤ්ඤාණ තත්ත්වයෙන් පාරිශුද්ධ චිත්ත තත්ත්වයට පත්වීම නිසාම නිවන පූර්ණ කර ගත් සේක.

විඤ්ඤාණ තත්ත්වයෙන් ක්‍රියාත්මක වන සිතක හැම මොහොතකම වාගේ යම් බලාපොරොත්තුවක් බිහිවෙයි. බලාපොරොත්තු මතම රැඳුණු බලාපොරොත්තු නිසාම ජීවත්වන විඤ්ඤාණය, මරණ මොහොතේත් තව දුරටත් ජීවත් වීමට දැඩි බලාපොරොත්තුවක් ඇතිවම මිය යයි. ඒ බලාපොරොත්තුව අනුව, විඤ්ඤාණය විසින්ම, අලුත් ලෝකයක් ද බිහිකර ගෙන, ඊට අවශ්‍ය සියලු දේ එකතු කරගන්නට සියලු උත්සාහ, වීර්යයන් ගනී. මේ අනුව බලාපොරොත්තුවලින් තොර විඤ්ඤාණයක් හෝ විඤ්ඤාණයෙන් තොර බලාපොරොත්තුවක් හෝ කිසිවිටෙක සිතක ඇතිවිය නොහැකිය.

බලාපොරොත්තුව යන වචනයේම තේරුම, යම් දෙයක්, යම් තැනක්, යම් කෙනෙක්, යම් සංකල්පයක්, යම් ධර්මතාවයක් එකතුකර ගැනීමට, අල්ලා ගැනීමට, උපාදානය කර ගැනීමට ඇති අවශ්‍යතාවයි. එයම තැනක හා වීම, තණ්හා වීම යනුවෙන්ද හඳුන්වයි.

මම කියා සංකල්පයක්, සත්ත්ව පුද්ගල ඒකකයක්, විඤ්ඤාණයෙන්ම බිහිකර ගත් පසුව, මම ජීවත් කරවීමට, මාගේ ලෝකය පවත්වා ගැනීමට, සියලු බලාපොරොත්තු ඇති කර ගනී. මම කියා ඇති කරගත් "මම" සංකල්පය විඤ්ඤාණයෙන්ම ඇති කරගත්

මායාවකි. දෘෂ්ඨියකි. ඒ නිසාම පුද්ගලයෙකු, ඒකකයක් යන සංකල්පය ද බිහි වී, මට ජීවත් වන්නට, මගේ අයට ජීවත් වන්නට මෙන්ම මගේ නොවන අය, දේ, තැන්වලට, සීමා වැට කඩොළු පනවා වෙන්කර දක්වන්නට ද පටන් ගනී. මගේ යන සංකල්පය නිසාම අපේ යන සංකල්පය ද ඇතිවෙයි. අපේ දේ, අපේ ගෙදර, අපේ රට යැයි සිතන්නට ද පුරුදු වෙයි. අපේ නොවන දේවල් ද බිහිවෙයි. අපේ රට නොවේ, අපේ මිනිස්සු නොවේ යන විඥ්ඥාණයෙන් ඇතිකර ගත් සිතිවිලි ද මුල් බැස ගනී.

මම යන සංකල්පය බිහිවෙන්නට එකම හේතුව සිත, විඥ්ඥාණ තත්ත්වයෙන් ක්‍රියාත්මකව පැවතීමයි. මම මධ්‍ය කොට ගෙන, විඥ්ඥාණය ලෝකය මනින්නට පටන් ගනී. මෙසේ මැන මැන කරන්නේ, මගේ ගොඩ ලොකු කරගන්නට එකතු කිරීමයි. මම යන සංකල්පය නිසා මානයත්, මඤ්ඤතාවයත්, අස්මිමානයත්, මමත්වයත් ඒ සමඟම මගේ ලෝකයක් ද බිහිවෙයි. මම කියා සංකල්පයක් බිහිනොවූයේ නම් මගේ ලෝකයක් ද නැත. විඥ්ඥාණ තත්ත්වයක් සිතෙහි ක්‍රියාත්මක වන තුරාවට මගේ ලෝකයක් ද, මමද, මට කියා විවිධ දේ එකතු කරන්නට ද, මගේ නොවේ කියා සීමා පනවන්නට ද, උස් පහත්, ලොකු පොඩිකම් ආදී සියලු භේදයන්ද සිතෙහිම ඇතිවෙයි.

විඥ්ඥාණය ක්‍රියාත්මක වන සිතක නියත ගති ලක්ෂණයන් පෙන්වීමට බුදුපියාණන් දේශණාකර වදාළ ධර්ම පාඨය වන්නේ "ඌනෝ ලෝකෝ අතිත්තෝ තණ්හා දාසයෝ" යන්නයි. කොපමණ එකතුකර ගත්තත් තමන්ගේ ලෝකයේ ඌනතාවයක්, අඩුවක් ඇති බවත්, තෘප්තිමත් වන ස්වභාවයක් නැතිකමත් නිසාම තැනක හා වීමත්, හැම පෘථග්ජන පුද්ගලයෙකුගේම නියත ගති ලක්ෂණයයි. රජකම ලැබුණත් සක්විති රජකම බලාපොරොත්තු වේ. සක්විති රජකමෙනුත් සෑහීමකට පත්නොවී සදෙව් ලොවටම අධිපති ශක්‍ර දේවේන්ද්‍රයාගේ තනතුර ගන්නට ද එක්තරා රජෙකු උත්සාහ ගත් කතාවක් ත්‍රිපිටකයේ සටහන් වී ඇත. මේවා විඥ්ඥාණයේ මූලික ගති ලක්ෂණයන්ය. ඒ නිසා තණ්හාව, ආශාව, උපාදානය ආදී ගතිගුණ නැතිකර ගන්නට නම්, විඥ්ඥාණ තත්ත්වයේ පවතින සිත පාරිශුද්ධ තත්ත්වයට පත්කර ගත යුතු බව හැම කෙනෙකුම තේරුම් ගත යුතු සත්‍යයකි.

## විඥ්ඥාණය යනු කුමක්ද ?

විඥ්ඥාණය යනු කුමක්දැයි නිවැරදිව දැන පැහැදිළි කර ගැනීම නිවන් දැකීමට ඉතාමත් උපකාරකය. මේ පිළිබඳව හොඳින් තේරුම් ගතහැකි පරිදි පැහැදිළි විස්තරයක් අද කිසි පොතකින් හෝ දේශණයකින් ලබා ගත නොහැකි වීම, නිවන් මඟ වැසී තිබීමට එක් මූලික හේතුවකි. සාමාන්‍ය පුද්ගලයින් මෙන්ම උගතුන්ද, සිත, යටිසිත, මනස ආදී විවිධ නම් වලින් හැඳින්වූවත්, උපන් හැම සත්ත්වයකුටම ඇත්තේ විඥ්ඥාණයකි. ඒ නිසාම අංග පහකින් යුත් පංචස්කන්ධයේ වැදගත්ම කොටස ලෙසද විඥ්ඥාණය පෙන්වා දී ඇත.

විඥ්ඥාණය ලෙස හඳුන්වන්නේ කහට ගැන්වී, බලගැන්වී, කිළිටි වූ ජවයක් (සං) එකතු වූ චිත්තයට බව මුලින් ද පෙන්වා දී ඇත. මේ සියලු කහට ගැන්වීම්වලින් බලගැන්වීම්වලින් ජවයක් (සං) එකතු වීමෙන් වන්නේ (චිත්තයෙහි) සිතෙහි

බලාපොරොත්තු පිරීමයි. මේ නිසාම විඤ්ඤාණය යනු බලාපොරොත්තුවලින් පිරුණු සිත ලෙසද සරළ ලෙසින් විග්‍රහ කළ හැකිය. බලාපොරොත්තු නැති විඤ්ඤාණයක් හෝ විඤ්ඤාණයක් නැතිව බිහි වූ බලාපොරොත්තුවක් හෝ විග්‍රහ කළ නොහැකිය. සිතක විඤ්ඤාණයක් (බලාපොරොත්තුවක්) උපදින්නේ ඉන්ද්‍රියයන් මඟින් ලබා ගන්නා සංඥා මඟිනි. (මෙතන ද සංඥා යනු "සං" යන ජවයෙන් එකතු කර ගත් දැනුමයි). ඇස, ඇසින් දකින රූප නිසා, කන, කනෙන් ඇසෙන ශබ්ද නිසා, දිව, දිවෙන් ලබන රසය නිසා, කය, කයට ලැබෙන ස්පර්ශය නිසා, මන, මනසට ලැබෙන අරමුණු (ධම්ම) නිසාම සිතක යම් බලාපොරොත්තුවක් උපදී. එම බලාපොරොත්තු චක්ඛු විඤ්ඤාණය, සෝත විඤ්ඤාණය, ඝාණ විඤ්ඤාණය, ජිව්හා විඤ්ඤාණය, පොට්ඨබ්බ විඤ්ඤාණය, මනෝ විඤ්ඤාණය යනුවෙන් සය ආකාරය. මේ සියලු විඤ්ඤාණයෝ ඉන්ද්‍රියයන් මුල්කොට ගෙනම උපදිති. මේ හය ආකාරයෙන් තොරව සිතක කිසිඳු විඤ්ඤාණයක් ඉපදිය නොහැකිය. මේ ඉන්ද්‍රියන් හයම විඤ්ඤාණ ශක්තිය උපදින උල්පත්ය. මේ කුමන ඉන්ද්‍රියකින් විඤ්ඤාණය උපන්නත්, එය මනස වෙත යොමු වී, සකස් වී, ඒකාබද්ධ වී ක්‍රියාත්මක වන නිසා "සං" උපදවන්නේ, එකතු කරන්නේ මනෝ විඤ්ඤාණයෙන්මය.

මෙලෙස සිතක උපදින බලාපොරොත්තු (විඤ්ඤාණයෝ) කර්ම විඤ්ඤාණය, ප්‍රවෘත්ති විඤ්ඤාණය, පටිසංධි (ප්‍රත්‍ය) විඤ්ඤාණය යැයි නිදානය අනුව වර්ග කර විග්‍රහ කර තිබේ. කර්ම විඤ්ඤාණය යනු, මීට පෙර සිතින් බිහිකළ ශක්තීන්, චිත්තජ රූප (දැන් කර්මජ රූප) විපාක දීමක් ලෙස සිතෙහි අරමුණු පහළ වීමයි. සෑම චිත්තජ රූපයක්ම (ශක්තියක්ම) අතීතයට ගිය පසු කර්මජ රූප ලෙසින් හඳුන්වන අතර එය විපාක ලැබෙන හේතුවක් බව කලින්ද පෙන්වා දී ඇත. ප්‍රවෘත්ති විඤ්ඤාණය යනු, යම් සිදුවීමක් දැකීම, ඇසීම වැනි හේතුන් මනසෙහි ස්පර්ශ වීම නිසා උපදින බලාපොරොත්තුය. පටිසංධි විඤ්ඤාණය, වෙනත් හේතුවක් ප්‍රත්‍ය කොට (පටිච්චසමුප්පන්නව) උපදින අරමුණය. සංඛාර නිසා, වේදනාව නිසා ආදී කොට විඤ්ඤාණ උපත ලබයි.

මේ සියලු විඤ්ඤාණයෝ අවිද්‍යා මූලයෙන් උපන් විඤ්ඤාණ, කුසල මූලයෙන් උපන් විඤ්ඤාණ යැයි දෙකොටසකි. අවිද්‍යා මූලයෙන් උපන් විඤ්ඤාණයෝ කෙළෙස් උපදවන, සසර දිගු කිරීම සඳහා හේතු වෙයි. ඒවා පින් හෝ පව් හෝ විය හැකිය. කුසල මූලයෙන් උපන් සිත් සංසාර ගමන නවත්වන "සං" එකතු නොකරන, පහත් වූ කුණු වැනි දේ සළාහරින නිසාම නිවනට උපකාරක ධර්මයෝය.

අවිද්‍යා මූලයෙන් උපන් විඤ්ඤාණයෝ රාග, ද්වේෂ, මෝහ යනුවෙන් සරළ ලෙස බෙදා ඇත. තණ්හා, ආශා, ලෝභ, තරහා, වෛර, මෝඩකම ආදී සියල්ල මීට ඇතුළත්ය.

විඤ්ඤාණය, අතීත විඤ්ඤාණය, අනාගත විඤ්ඤාණය හා වර්තමාන විඤ්ඤාණය යැයි කොටස් තුනකට බෙදෙයි. මේ ආකාර වූ සියලු කොටස් එකතුකර පෙන්වීම සඳහා විඤ්ඤාණස්කන්ධය යන පදය භාවිතා කෙරෙයි.

සත්ත්ව සංථානයක උපදින දුක්වලින් සියයට අනූනවයක්ම උපදවන්නේ අවිද්‍යා සහගත විඤ්ඤාණයයි. පෘථග්ජන පුද්ගලයෙකු දුක් විඳින්නේ, තම අතීතය ආවර්ජනය

කරමින්, අතීත සිදුවීම් නැවත නැවතත් සිහිපත් කරමින්, සිතින් සිහින මවමින්, දහසක් බලාපොරොත්තු (විඤ්ඤාණ) උපදවා ගෙන ඒවා ප්‍රියයි, මනාපයි, සුවයි කියා සිතා ඒවා ලබා ගැනීමට අල්ලා ගැනීමට කරන උත්සාහයන් නිසාමය. එය අතීත විඤ්ඤාණයයි. අතීතය යනු වැළලී ගිය නැවත කිසි දිනක ආපසු මතුකර ගත නොහැකි දෙයක් බව කිසි කෙනෙකු කල්පනා නොකරයි. එහි යථාර්ථය දකිය නොහැක්කේ, ඡන්දරාගය මුසු වූ මෝහය නිසාය.

අනාගත විඤ්ඤාණය යනු ඉදිරිය ගැන, හෙට ගැන විවිධ බලාපොරොත්තු (විඤ්ඤාණ) බිහිකර ගෙන, ඒ බලාපොරොත්තු ඉටුකර ගැනීම සඳහා කරන විවිධ සංඛාර, ක්‍රියා, වදන්, සිතුවිලිය. අවිද්‍යා සහගත වූ මේ නූපන් බලාපොරොත්තු (විඤ්ඤාණ) ඉටුකර ගැනීමට සියලු සත්ත්වයෝ අනන්ත දුක් විඳිති. මේ අනුව බලන කළ අතීතය ආවර්ජනය කරමින්, අනාගත විඤ්ඤාණ අරමුණු ඉටුකර ගැනීම සඳහාම සියලු සත්ත්වයෝ දුක් විඳිති. වර්තමාන විඤ්ඤාණ නිසා දුක් විඳින කෙනෙකු නැත. මේ බලාපොරොත්තු මනසින් බිහිකර ගෙන හදාවඩා ගත් ("සං" කරගත්) එකතු කරගත් දේ මිස (මායාවල් මිස) සත්‍යයක් නොවේ. අතීත, අනාගත සියලු විඤ්ඤාණයන්ට හේතුව ඡන්දරාගයයි.

උපන්දා පටන් හෝ පසුගිය අත්බැව් පටන් හෝ එන මතක සටහන්, නැවත නැවතත් ආවර්ජනය කරමින්, ඒවා පිළිබඳ ඇති කරගත් කැමැත්තෙන් බිහිකරගත් බලාපොරොත්තුවල මුල ඡන්දරාගයයි.

පෙර ජාතියේදී අවිද්‍යාවෙන් ගොඩනගා ගත් බලාපොරොත්තුවක් (විඤ්ඤාණයක්) නිසාම මේ ජාතියේදීත් ඇස, කන, නාසය, දිව, කය, මනස උපදවා ගෙන ප්‍රියයි, මනාපයි, සුවයි, යහපත් කියා ඒවා අයිති කරගෙන, ඒවා මගින් ලෝකාස්වාදයක් විඳියි. අවිද්‍යා සහගත බලාපොරොත්තු (විඤ්ඤාණයෝ) නිසාම මෙසේ ප්‍රියයි, මනාපයි, සුවයි සිතූ දේම යළි යළිත් විඳීමේ බලාපොරොත්තුවෙන්ම ඒවායේ ඇලෙයි, බැඳෙයි. කොහොල්ලෑවක් මැලියමක් වැනි වූ මේ ඡන්දරාගයෙන් ඇලීම, බැඳීම ඇති කරගෙන මුළාවී කටයුතු කරයි.

අවිද්‍යා සහගත විඤ්ඤාණයෝ අනුත්පාද කිරීම, නිරෝධ කිරීම නිවන් මඟයි. අතීත, අනාගත විඤ්ඤාණ (බලාපොරොත්තු) නිරෝධ කිරීම මගින් නිවන් මග හෙළි කරගත හැකිය. ඉන්ද්‍රියයන් හය මගින් මනසට ලැබෙන සංඥා උපකාර කරගෙන, මනසෙහි බිහිවන බලාපොරොත්තු දිගේම මනස මෙහෙයවා වල්මත් වෙනවා වෙනුවට, මනස සංවර (සං-වැරීම මගින්) කරගෙන, සං උදය (සමුදය) සං-උපදින තැන දැක, සං දිට්ඨික වී, "සං" නිරෝධ කිරීම මඟින් නිවනට මඟ පූර්ණ කරගත හැකිය.

අවිද්‍යා සහගත බලාපොරොත්තු උපදින උල්පත් වූ ඉන්ද්‍රියයන් හය(6) පාලනය කර, ඡන්දරාගය නමැති කොහොල්ලෑවක් මැලියමක් වැනි ඇලෙන ගතිය අක්‍රීය බවට පත් කර, නිරෝධ කිරීම මඟින්, අවිද්‍යා සහගත විඤ්ඤාණ උපදින උල්පත් වසා දැමීම කළ හැකිය.

මෙය ඉන්ද්‍රිය සංවර කිරීමයි. සතර සතිපට්ඨානය වැඩීමයි. ත්‍රිවිධ සුචරිත පූර්ණ කිරීමයි. සප්තබොජ්ජංග වැඩීමයි. අරිය අෂ්ටාංගික මාර්ගය වැඩීමයි. නිවන් මඟයි. අරිය

පර්යේෂණයයි.

## විඤ්ඤාණ ශක්තිය හා මනස

සත්ත්වයෙකුගේ, පුද්ගලයෙකුගේ සිත යැයි අප ව්‍යවහාරයේ දී හඳුන්වන විඤ්ඤාණ ශක්තිය, අපූර්ව ආකාර වූ පුදුමාකාර ශක්තියකි. ලෝකය යැයි අප අදහස් කරන මේ ඇතිවන, වෙනස්වන, විනාශවන පැවැත්මට එහි සියලුම ක්‍රියාත්මක තත්ත්වයන් නොනවත්වා සජීවී තත්ත්වයෙන් පවත්වා ගන්නට ලැබෙන්නේ, සත්ත්වයාගේ සිතෙන්ම උපදින විඤ්ඤාණ ශක්තියෙනි. මේ සක්වල තුළ අපට පෙනෙන, නොපෙනෙන සියලු සජීවී බලවේගයන් ක්‍රියාත්මක වන්නට මුල් වූ එකම බලවේගය, අප චිත්ත ශක්තිය යැයි ප්‍රකාශ කරන මේ විඤ්ඤාණ ශක්තියමයි. ගොඩ දිය දෙකෙහිම ජීවත්වන සියලු සත්ත්වයින්ද, ජීවීන් ලෙස අප හඳුන්වන සියලු සත්ත්ව කොට්ඨාශයන් ද, අපට මසැසට නොපෙනුනත් අනන්ත අප්‍රමාණ වූ දේව, භූත, අමනුස්ස කොටස් ආදී හැම කෙනෙකුටම, තමාටම පෞද්ගලික වූ විඤ්ඤාණ ශක්තියක් උපදවා ගනී. එවන් විඤ්ඤාණ ශක්තියක් නැති කෙනෙකුට ජීවියෙක්, භූතයෙක්, සත්ත්වයෙක්, ප්‍රාණියෙක් යැයි නම් කළ නොහැකිය.

මේ හැම ප්‍රාණියෙක්ම, හැම ජීවියෙක්ම තම විඤ්ඤාණ ශක්තිය මෙහෙයවා, ආපෝ, තේජෝ, වායෝ, පඨවි යන සතර මහා භූතයන් එක්කර තම පැවැත්ම සඳහා, පදිංචියට අවශ්‍ය කුඩුවක් ද සකස් කරගනී. මෙවන් කුඩුවක් (අභිනිවේසයක්) නැතිව කිසිම සත්ත්වයෙකුට තම විඤ්ඤාණය පවත්වාගත නොහැකිය. අපට මසැසට නොපෙනෙන නිසාම එවන් සත්ත්ව, භූත, දේව, බ්‍රහ්ම කොට්ඨාශවලට ශරීරයක් නැතැයි, පැවැත්මක් නැතැයි අප නිගමනය කිරීම සම්පූර්ණයෙන්ම වැරදිය. ස්පර්ශ කළ නොහැකි, මසැසට දර්ශනය කරගත නොහැකි, ඉතා සියුම් ආපෝ, තේජෝ, වායෝ, පඨවි භූතයන්ගෙන් සකස් කරගත් ඒ ඒ සත්ත්වයන්ගේ අභිනිවාසයන් අපට දැකිය නොහැක්කේ, අපේ විඤ්ඤාණ ශක්තිය අඳුරු පටලයන්ගෙන් වැසී ආසව තට්ටුවලින් මුවහ වී පවතින නිසාය. අපේ මනසට මැනිය හැකි වන්නේ ආපෝ, තේජෝ, වායෝ, පඨවි, වර්ණ, ගන්ධ, රස, ඕජා යන ශුද්ධාෂ්ටක ධාතූන් පමණි. භූත, දේව, අමනුස්ස කොටස් සැදී ඇත්තේ, මෙවන් ධාතු කොටස් බවට පත් නොවූ මහා භූත කොටස් වලිනි. මහාභූත ඝනීභවනය වීමෙන් ධාතු කොටස් බිහිවෙයි. යමෙකුට තමන්ගේ ආධ්‍යාත්මික ශක්තිය, මැනීමේ ශක්තිය (මනස) පිරිසිදු කරගෙන චිත්ත පාරිශුද්ධ තත්ත්වයට පත්කරගත හැකිනම්, එවිට ඒ මනසම අභිඥා යන තත්ත්වයට පත්වෙයි. එහිදී සංඥා වෙනුවට උසස් තත්ත්වයෙන් යුත් දැනුමක් වන අභිඥා ලැබෙන නිසා, ධාතු කොටස් මෙන්ම මහා භූත කොටස්වලින් ද සැදුණු සියලු භූත හා සත්ත්ව කොටස්ද දැකගත හැකිවෙයි. තවදුරටත් චිත්ත පාරිශුද්ධතාවය දියුණු කරගෙන, යම් කෙනෙකුට සියලුම අඳුරුපටල, ආසව තට්ටු සහ මුළින්ම තමා තුළින් ඉවත්කර, ආධ්‍යාත්මික පාරිශුද්ධතාවයටද පත්කර ගතහැකි නම්, එය ප්‍රඥාවයි. ඥාණයේ ප්‍රකෘති තත්ත්වය එයයි. එය පරම පවිත්‍ර දැනීමයි. එසේ නම් ඥාණ, විඤ්ඤාණ, අභිඥා, ප්‍රඥා යන විවිධ අවස්ථාවලට පත්වෙන්නේත් එකම සිතකි.

"සං" යනු එකතු කිරීම, රැස් කිරීම යන තේරුම දෙන පදයකි. සංඥා යනු දැනුම එකතු කිරීමයි. ඥාණ, විඤ්ඤාණ, අභිඥා යන අවස්ථා තුනේදීම, සංඥා ක්‍රියාත්මක වෙයි.

නමුත් ප්‍රඥාව යන තත්ත්වයේදී සංඛාර නොකරන නිසා, රැස් නොකරන නිසා එය පරම පවිත්‍ර තත්ත්වය දකින අවස්ථාවකි. ප්‍රඥාව නැමැති තත්ත්වයට පත්වූ කෙනෙකුට, යම් දෙයක් පරම පවිත්‍ර ප්‍රකෘති තත්ත්වයෙන්ම දැකගන්නට ලැබෙන නිසා, ඒ පිළිබඳව දැනුමක් රැස්කර ගන්නට (සංඥා) අවශ්‍ය නොවේ. මැන බලා දැනගන්නට අවශ්‍ය නොවේ. මානය යනු මැනීමයි. එකතුකරගත් දැනුම මැන බලා හොඳ, නරක, රස, ගුණ වැනි සියලු දැනුම ලබාගන්නේ මනසෙනි. එසේ මැන බලා දැනගන්නට සිදුවන්නේ, විඤ්ඤාණ ශක්තියෙන් එකතු කරගත් දැනීමයි. සංඥා යනු විඤ්ඤාණ ශක්තියෙන් එකතු කරගත් රාග, ද්වේෂ, මෝහ සහිත වූ අලෝභ, අද්වේෂ, අමෝහ සහිත වූ දැනුමයි. එසේ නම් විඤ්ඤාණ ශක්තිය යනු, ලෝභ, ද්වේෂ, මෝහ ගති නිසා සිත තුළ බිහි වූ ශක්තියයි. ලෝභ, ද්වේෂ, මෝහ ගති සහමුළින් ශුද්ධ පවිත්‍ර කර, චිත්ත පාරිශුද්ධතාවයට පත් කරගත් කෙනෙකු, විඤ්ඤාණ ශක්තියක් තම සිතෙහි නොඋපදවයි. විඤ්ඤාණ ශක්තිය යනු වාහනයක් දුවවන්නට අවශ්‍ය වන ඉන්ධන ශක්තිය හා සමාන ශක්තියකි. හැම සත්ත්වයාම සංසාර රිය ගමනක යෙදෙයි. මේ රිය ගමන් කරන්නට අවශ්‍ය වන ඉන්ධන නිපදවන්නේ විඤ්ඤාණ ශක්තියෙනි. එසේ නම් රාග, ද්වේෂ, මෝහ බිහි නොකරන තත්ත්වයක පවතින සිතකින් සංසාර රිය ගමන යාමට උපකාරවන ඉන්ධන, එනම් විඤ්ඤාණ ශක්තිය උපදවන්නේ නැති නිසා එම තත්ත්වය අරිය තත්ත්වයයි.

උපන් හැම සත්ත්වයෙක්ම, භූතයෙක්ම, දෙවියෙක්ම, ප්‍රාණියෙක්ම, අමනුස්සයෙක්ම ජීවත්වීම, හේතුඵල පරම්පරාවක් ක්‍රියාත්මක කිරීමට සම්බන්ධ වූ සකළවිධ ක්‍රියාදාමයන් ක්‍රියාවට නංවන්නේ, ඒ ඒ සත්ත්වයාම උපදවා බිහිකරගෙන, ගබඩා කරගෙන ඇති විඤ්ඤාණ ශක්තියෙන්මය. මේ අනුව බලන කළ මේ හැම සත්ත්ව, භූත, දේව, අමනුස්ස කොට්ඨාශයක්ම ජීවත් වෙනවා යනු, විඤ්ඤාණ ශක්තීන් බිහිකිරීමේත්, ගබඩා කිරීමේත්, ඒ විඤ්ඤාණ ශක්තිය භාවිතා කිරීමේත් එකම රාජකාරියක මුළු ජීවිත කාලයම නිරත වීමයි. මීට අමතරව කිසිම දෙයක් කිසිම කෙනෙකු නොකරන බවද නිවැරදිවම තේරුම් ගත යුතුයි. මෙය විඤ්ඤාණය ආහාර සෙවීමේ ක්‍රියාවලියයි. ගබඩාකරගත් විඤ්ඤාණ ආහාර කර්ම බීජ ලෙසින් ක්‍රියාත්මක වී මතු උපතක් ලබන්නට ද උපකාර වෙයි.

මෙසේ රැස්කරගත් කර්ම බීජ (විඤ්ඤාණ බීජ) ඒ ඒ සත්ත්වයාගේම චිත්තසංථානයේම ගබඩා වන අතර, මහාකල්ප 91 ක් යනතුරු නැවත නැවතත් උපත ලබන්නට තරම් බලවත් කර්ම බීජ මේ අතර පවතී. බුද්ධ දේශණාවට අනුව, යම් කෙනෙකු විඤ්ඤාණයේ ක්‍රියාකාරීත්වය වන මෙම ශක්තිය නිවැරදිව තේරුම් ගතහොත් මේ ශක්තියම ප්‍රයෝජනයට ගෙන විඤ්ඤාණ ශක්තීන් උත්පාදනය කරන මූලයද සොයා දැන රාග, ද්වේෂ, මෝහ ඛය කර දමා සිත පිරිසිදු කර ගැනීමෙන්, මේ සංසාර ගමනද සදහටම නිමාකරගත හැකිවෙයි. මේ රිය ගමනට, සංසාර ගමනට, අත්‍යාවශ්‍ය සාධකය වූ ඉන්ධන සැපයීම නතර කිරීම මිස මේ ගමන නතර කිරීම සඳහා වෙනත් ක්‍රමවේදයක් ද නැත. තෙල් අවසන් වූ පසු පහන නිවී යන්නා සේ, ඉන්ධන නැතිකළ මේ සංසාර රිය ගමනද ස්වභාවිකවම නතර වන බව බුදුපියාණන්වහන්සේ පෙන්වා වදාළහ.

මිනිසෙකුව උපත ලත් සෑම කෙනෙකුගේම සිත, අනෙකුත් සියලුම සත්ත්ව, භූත, දේව, අමනුස්ස සිත්වලට වඩා ක්‍රියාත්මක ශක්තියෙන් වෙනස්ය. මිනිස් සිතෙහි මානයක්,

මැන බැලීමේ ශක්තියක් - මනසක් - මනින්ද්‍රියක් ඇත. මෙයම මනායතනය ලෙසින් ද ක්‍රියාත්මක වෙයි. මෙවන් මනස, කෙනෙකුට පිරිසිදු කරගෙන, දියුණු කරගත හැකිය. මෙය දෙයාකාරයකින් දියුණු කරගත හැකිය. එක ආකාරයකින් ලෝකය ගැන ඥාණය, දැනීම එකතුකර, ගබඩාකර ඥාණ ශක්තිය දියුණු කර ගැනීමයි. මෙය උගත්කම, නුවණ, බුද්ධිමත් බව ආදී වචනවලින් පෙන්වාදුන් විඤ්ඤාණ ශක්තියම දියුණු කර ගැනීමකි. දෙවන ආකාරය ලෝභ, ද්වේෂ, මෝහ ආදී කිළිටි, අඳුරුගති, ආසව අනුසය තට්ටු සළාහැර, ශුද්ධ පවිත්‍ර කර, සිත පිරිසිදු කරගෙන ප්‍රභාශ්වර තත්ත්වයට පත්කර ගැනීමයි.

අතීතයේ දී කවදා හෝ තමන්ම එකතු කරගත් කෙළෙස්, කිළිටි, කහට ගැන්වුණු, ආසව තට්ටු මිසක වෙනත් බාහිර කෙනෙකුගෙන් ලැබුණු කිසිම ශක්තියක්, බලයක්, සිතක නැත. තමාගේ සිත තුළ ඇති මේ ආසව තට්ටු දැකගත හැකි වන්නේද තමාටම පමණි. මනස මෙහෙයවා මැන කුණු ඉවත්කර පිරිසිදු කරගත හැකි වන්නේද තමාටම පමණි. කුසලය පිරීම, කුසලස්ස, කුණු සළාහැර පිරිසිදුවීම යනු සංසාරයේ තමන්ම කවදා හෝ එකතුකර, ගබඩා කරගත් මෙවන් රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණයන්, කර්ම බීජ සළාහැර, චිත්තය පාරිශුද්ධතාවට පත් කර ගැනීමයි. ඒ නිසා කුසල් පිරීම යනු යම් කිසිවක් එකතු කිරීම, රැස් කිරීම නොවේ. කුණු සළාහැර, පිරිසිදු වීමයි.

භාවනා කර ධ්‍යාන වඩා, රාග, ද්වේෂ, මෝහ ගති දවාහැරිය හැකි වෙයි. භාවනා කර ධ්‍යාන වැඩීම, රාග, ද්වේෂ, මෝහ දවා හැරීමද දෙයාකාර වෙයි. වර්තමානයේ රාග, ද්වේෂ, මෝහ එකතු කිරීම වළකා දමා, නවතා දමා, අනාගතයේ ඒවා එකතු කිරීමට හේතුවන ක්‍රියාවන්ගෙන් ද වැළකීම එක් ක්‍රමයකි. මෙය අනරිය භාවනාවයි. මෙහි දී අතීතයේ රැස්කර ගත්, ගබඩා කරගත්, කර්මබීජ දවාහැර ඒවායින් නිදහස් වන්නට ක්‍රමයක් පිළිබඳව දැනීමක් නැත. ඒ නිසා තාවකාලිකව, රාග, ද්වේෂ, මෝහවලින් ඉවත්වී රූපී, අරූපී ධ්‍යාන ලැබ තාවකාලිකව ලෞකික සුවයක් ලබයි. මේ ක්‍රමය අනරිය ධ්‍යානයක් ලබා ගැනීමයි. බුද්ධෝත්පාද කාලවල මෙන්ම අබුද්ධෝත්පාද කාලවලදීද මෙය කරගත හැකිය. බුදු කෙනෙකුන් ලොව පහළ වී, සොයා දැන දේශණා කරන්නේ මෙයට හාත්පසින්ම වෙනස් වූ අරිය භාවනා ක්‍රමයයි. මෙය බුදුපියාණන්වහන්සේ කෙනෙකු ලොව පහළ වීමෙන්ම පමණක් ලෝකයාට පෙන්වා දෙනු ලබන සදාකාලික වූත්, පරමශාන්ත වූත්, අකුප්පා චේතෝ විමුක්තිය ලබන ක්‍රමයයි. ප්‍රඥා විමුක්තිය ලබන භාවනා ක්‍රමයයි. මෙහිදී වර්තමානයේ දී රාග, ද්වේෂ, මෝහ රැස්කිරීම නවතාලන මාර්ගය වූ සංවර සීලයත්, අනාගතයේ රාග, ද්වේෂ, මෝහ බිහිවීමට හේතුවන කෙළෙස් මුල් උදුරා දමන සංසිඳවීමත්, අතීතයේ එකතුකර ගබඩා කර ඇති සියලු මෝහ මුල් සිඳලන "සම්මා" අංග සම්පූර්ණ කිරීමත් යන ක්‍රම තුනම අනිවාර්යයෙන්ම අනුගමනය කළ යුතුමය. අතීතයේ රැස්කර ගබඩා කරගෙන චිත්තසංථානයේ තැන්පත් වී ඇති ආසව තට්ටු කපාහැර, ශුද්ධ පවිත්‍ර වීමට මඟ සොයා දැන පැහැදිළි කර දීම කළ හැකිවන්නේ බුදුපියාණන්වහන්සේ කෙනෙකුටම පමණි. ඒ හැර, බුදුපියාණන්වහන්සේගෙන් අසා දැනගත් මේ නිවැරදි මඟ කියා පැහැදිළි කර, විග්‍රහ කරදීමේ හැකියාව ඇත්තේ ද, බුද්ධ ශ්‍රාවකයෙකුට පමණි.

මේ පොත කියවන ඔබ සැම දෙනෙක්ම අද මිනිසෙකු වී උපත ලබා මේ මැන බැලීමේ ශක්තිය මනස උසස්කර ගතහැකි තත්ත්වයකින්ද ජීවත් වෙති. තමන්

ජීවත්වෙනවා යන්න පිළිබඳව සිතා බලා, විඤ්ඤාණ ශක්තිය තේරුම් ගෙන, මනසින් මැනබලා මෙනෙහි කර , නැවත නැවතත් විවිධාකාරයෙන් විමර්ශනය කිරීමෙන්, අතීතයේ එකතු කරගත් කිළිටි, කහට, කුණු පැල්ලම් ප්‍රහාණය කරගත හැකි වන්නේද මනසට පමණි. එකතු කරගත් කෙළෙස් ගති බය කර දමා, ගෙවා දමා, විරාග කර, ප්‍රහාණය කර, අතහැර, මීදී නිදහස් විය හැකි වන්නේද මනස මෙහෙයවා ක්‍රියා කිරීමෙනි. එය කළහැකි වන්නේ මිනිස් සිතකින්ම පමණි. මේ මිනිස් සිතට විවිධාකාර වූ චිත්ත ශක්තීන් ඇතිබව දැන හඳුනාගන්නටත්, ඒ ශක්තීන් පිරිසිදු කර වැඩි දියුණු කරගන්නටත්, සිත පාරිශුද්ධ තත්ත්වයට පත්කර ගන්නටත්, ප්‍රභාෂ්වර තත්ත්වයට පත්කර ගන්නටත් හැකියාවක් ශක්තියක් ඇත. ඒ නිසාම මනුස්ස යන නමද මිනිසාට ලැබී ඇත.

විඤ්ඤාණ ශක්තිය යමෙකු තුළ උපදින්නේම සිත රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් ක්‍රියාත්මක වීමෙන්මය. රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණ කර්ම බීජ ලෙසින් සිතෙහි තැන්පත් වීම නිසා, ආසව තට්ටුවලින් සිත මුවහ වී, අඳුරු වී, කිළිටි වී යයි. සිතෙහි ප්‍රභාස්වර තත්ත්වය නැතිව මුළා වූ තත්ත්වයකට පත්වෙයි. ඇත්ත ඇති සැටියෙන් දැකගන්නට හෝ හේතුඵල ධර්මතාවය තේරුම් ගන්නට හෝ ආදීනව ආනිසංස වටහාගන්නට හෝ නොහැකි තත්ත්වයට මිනිසා පත්වෙයි. තිරිසන් සත්ත්ව කොට්ඨාශවලට අයත් සතුන්ට තම මවුපියන්, දූදරුවන් වෙන්කොට දැනගන්නට නොහැකිව ඇත්තේ රාගයෙන්, මෝහයෙන් දැඩි සේ සිත මුවහ වී ඇති හෙයිනි.

මෙවැනි කෙළෙස් ගති තම සිත තුළ පවතින බවක්, තමන් මෝහයෙන් මුළාවෙන් ක්‍රියාත්මක වන බවක්, රාගයෙන්, ද්වේෂයෙන්, පටිඝයෙන් ඇවිළෙන බවක් බොහෝ මිනිසුන්ට පවා තේරුම් ගත නොහැකි වන්නේ, තමාගේම සිත වැසී, අඳුරු වී ඇති ආසව තට්ටුවල බලවත් කම නිසාමය. අනෙක පෘථග්ජන මිනිසාද විඤ්ඤාණ ශක්තියකින්ම කටයුතු කරන, ප්‍රිය මනාප දේම සොයා යන සත්ත්වයෙකු බව, කිසි ලෙසකින් කෙළෙස් සහිත වූ කෙනෙකුට තේරුම් ගත නොහැකි වෙයි. මේ නිසා තරගය, දෘෂ්ඨිගතවීම, වෛරය, ක්‍රෝධය, මානය ආදී ගති සිත තුළ මුල්බැස ගනී.

මිනිස් සිතෙහි ඇති මානය, මැනීමේ ලක්ෂණය - යහපත් ලක්ෂණයක්, යහපත් ශක්තියක් බවට පත්කර ගෙන සිත ශුද්ධ පවිත්‍ර කර ගැනීමටද යොදාගත හැකිය. අභ්‍යන්තර ආධ්‍යාත්මික ශක්තීන් සිත තුළින්ම බිහිකර, ඒවා උපකාරයෙන් විඤ්ඤාණ ශක්තිය අභිබවා ආධ්‍යාත්මික ශක්තිය මතු කරගත හැකිවෙයි.

"මනෝ පුබ්බංගමා ධම්මා මනෝ සෙට්ඨා මනෝමයා" යනුවෙන් බුදුපියාණන් දේශණා කර වදාළේ මිනිසෙකුගේ රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණ මුල්කරගත් විඤ්ඤාණ ශක්තියට වහල් වී කටයුතු කරනතාක් කල්, මනසෙහි ශක්තිය යටපත්ව, අවිද්‍යාවෙන්ම ක්‍රියා කරන බව පෙන්වීමයි.

පෙර අතීතයේත්, අද වර්තමානයේත් තමා විසින්ම හිතන, කරන, කියන සංඛාර මිස ඒ සංඛාර නිසා රැස් කරගත් රාග, ද්වේෂ, මෝහ ගති හා ඒ නිසාම රැස් කරගත් කර්ම බීජ මිස වෙනත් කිසිම බාහිර පුද්ගලයෙකු හෝ බලවේගයක්, අභ්‍යන්තර හෝ බාහිර

වශයෙන් කිසිම සත්ත්වයෙකුගේ අනාගතය ලෙසින් ඵල විපාක උරුමකර දෙන්නට සමත් නැත. චිත්ත ශක්තිය නමින්ද අප අදහස් කරන විඤ්ඤාණ ශක්තියට පරිබාහිරව මේ විශ්වය තුළ ක්‍රියාත්මකව පවතින කිසිම බලවේගයක් නොපවතින බව නිවැරදිව තේරුම් ගත යුතුය.

හිරු, සඳු, තාරකා පවා චිත්ත ශක්තියෙන් උපදවාගත් සත්ත්වයාගේ පැවැත්මට උපකාර වන දේ පමණි. හේතුඵල ධර්මය නමැති උතුම් බුද්ධ ධර්මය පූර්ණ ලෙස තේරුම් ගත් කෙනෙකුට, බුදුපියාණන්වහන්සේ සොයා දැන දේශණා කරන ලද මෙම සත්‍යයන් පූර්ණ ලෙස අවබෝධ කරගත හැකිවනු ඇත. ලෝකය ජීවී තත්ත්වයට පත්කර ක්‍රියාත්මක කරවන්නේ, හේතුඵල දහම ක්‍රියාත්මක වීමෙනි. හේතු කරන්නේ විඤ්ඤාණ ශක්තියෙනි. ඵල උරුම කරගෙන විපාක විඳින්නේ විඤ්ඤාණ ශක්තිය නිපද වූ සත්ත්වයාමය. මෙය නියත ධර්මතාවකි. මේ ධර්මතාවය කාටත් වෙනස් කළ නොහැකිය. නමුත් මනස මෙහෙයවා කටයුතු කළ හැකි සෑම මිනිසෙකුටම, හේතු වෙනස් කර, හේතු කිරීම නවතා දමා, ඵල විපාකද වෙනස් කරගත හැක. විඤ්ඤාණ ශක්තිය නිපදවීම සහමුලින් නවතා දමා, විමුක්තිය ළඟා කරගත හැකිය. එය ප්‍රඥා විමුක්තියයි.

**විඤ්ඤාණය හා ගති ලක්ෂණ එකතු කිරීම**

විඤ්ඤාණ තත්ත්වයෙන් ක්‍රියාත්මක වන සිතකින් කටයුතු කරන හැම පුද්ගලයෙකුම "මම" නැමැති සංකල්පයක්, ඒකකයක් තම සිතෙන්ම සකස් කරගෙන ජීවත්වෙයි. මෙය මඤ්ඤතාව ලෙසින් ද බුදු දහමේ පෙන්වා දී ඇත. මෙය දෘෂ්ටියකට බැඳීමකි. සංසාරයි යනුවෙන් සංඛාර කරමින් ලෝකයට සම්බන්ධ වී එකතු කරන සියලු දේ එකතු කරන්නේ "මම" යනුවෙන් ගත් දෘෂ්ටිය නිසාමය.

මේ අනුව විඤ්ඤාණයෙන් උපන් සත්ත්වයෙකු විඤ්ඤාණ තත්ත්වයෙන් සිත ක්‍රියාත්මක වන තුරාවට, උපන් මොහොතේ පටන් මියැදෙන තුරාවටම, අරහත් තත්ත්වයට පත් නොවූයේ නම් රාග, ද්වේෂ, මෝහ, අලෝභ, අද්වේෂ, අමෝහ යන ගති ලක්ෂණ එකතුකර, ඒ ගති ලක්ෂණ හයට අදාළ චිත්තජ ශක්තීන් (ජාති) උපදවා එකතුකරගෙන චිත්තසංථානයේ ගබඩාකර ගනී. ඒවාම ඉන්ධන ලෙස භාවිතයට ගනිමින් සංසාර ගමන යයි.

මිනිසෙකු ලෙස උපන් කෙනෙකු ගැන සළකා බැලුවහොත්, තම මුළු ජීවිත කාලයක් තුළදී කරන, කියන, හිතන සියලු සංඛාර කරන්නේ යම් යම් දේ එකතුකර ගැනීමටය. මෙසේ එකතු කරගන්නා සියලු දේ ප්‍රධාන කොටස් තුනකට බෙදා වෙන්කර පෙන්විය හැකිය.

01) උපන් මෙහොතේ පටන්ම දෙමව්පියන්, නෑදෑයින්, අඹුදරුවන්, සහෝදර සහෝදරයින් යාලු මිත්‍රයින්, සේවක ස්වාමින් ආදීන් එකතු කර ගනී. කල්යත්ම සතුරන් ද එකතුකර ගනී. තමන්ට හිමි නැති දේ සොරාගෙන බලෙන් අල්ලා ගෙන, එකතු කරගෙන, පරිහරණයට ගෙන ලෝකයට ණයකාරයෙකුද වෙයි.

මෙයද එකතුකර ගැනීමකි. මිල මුදල්, ගේ දොර, වතුපිටි, පොත්පත් ආදී දහසකුත් භෞතික දේ ද එකතු කරගනී.

මේ ලෙසින් එකතුකර ගත් කිසිවකු හෝ කිසිවක් හෝ තම අතින් අල්ලාගෙන නැත. සියලු ආකාර වූ අය, දේ, තැන් එකතු කරගෙන උපාදානය කරගෙන, සීමා මායිම් පනවාගෙන, පවත්වාගෙන යන්නේ තම සිතෙන්ම පමණි. සම්මත ව්‍යවහාරික ලෝකයක මිස සත්‍යය ලෝකයක මේ කිසිම සීමාවක්, අයිතියක් පැනවිය නොහැක.

02) උපදින මොහොතේ අඟල් ගණනකට සීමා වූ කිලෝ දෙක තුනක් බරට සිටි මේ පංචස්කන්ධය රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන කොටස් පහකින් යුතු වත, අද වන විට විවිධ ආහාර පාන ලබා දී, කවා පොවා පෝෂණය කර, ලොකු මහත් කර හදා වඩා ගෙන, අද පවතින මේ තත්ත්වයට ගෙනාවේ යම් යම් දේ එකතුකර ගත් නිසාමය. මම යැයි, මගේ යැයි, මගේ ආත්මය යැයි ගෙන මේ පංචස්කන්ධයද සිතින්ම උපාදානය කරගත්, පංචඋපාදානස්කන්ධයකි. මෙය ද එකතුකර ගත් තවත් මූලික කොටසකි.

03) උපන් හැම මිනිසෙකුම තම ජීවිත කාලය තුළදී විඤ්ඤාණයේ ක්‍රියාකාරීත්වය සඳහාත්, විඤ්ඤාණයේ මතු පැවැත්ම සඳහාත් උපකාර වන ගතිගුණ, ගති ලක්ෂණ, හුරු පුරුදු, චර්යා රටා, ඇබ්බැහිකම් ද එකතුකර ගනී. මෙසේ එකතු කරගත් ගති ලක්ෂණ සියල්ලම "භව" යන පදයෙන් පටිච්ච සමුප්පාද ධර්මයේ පෙන්වා දුන්, ඒ ඒ භවට පත්වීමට උපකාර වන ගති ලක්ෂණයෝය. ඒ සියල්ල ද එකතු කරගෙන චිත්තසංථානයේ ගබඩා කර ගනී.

හැම මිනිසෙකුම උපන් මොහොතේ පටන් මියැදෙන මොහොත දක්වාම සංඛාර කරමින් තම කැමැත්තෙන්ම එකතුකර ගන්නා මේ කොටස් තුනටම අදාළ සියලු දෑ මතු මේ ජීවිතය පවත්වාගෙන යාමට මෙන්ම, මතු මතුත් උපතක් සකස් කර ගැනීම සඳහාත් ගබඩා කර පවත්වා ගන්නා චිත්තජ ශක්තීන්ය.

මෙලෙස ජීවිත කාලයක් තුළ දුක්විඳ මහන්සි වී, වෙර වීරිය යොදා හරිහම්බ කර රැක බලා ගත් සබ්බ සකළමනාවත්, සියලු නෑදැයින්, හිතමිතුරන්, දුවා දරුවනුත්, ආදරයෙන් මගේ යැයි කියා කවා පොවා පෝෂණය කළ, රැක බලාගත් මේ පංචස්කන්ධයත්, මරණ මොහොතේ දී අතහැර දමා යන්නට වීම නියතය. මෙසේ ජීවිත කාලයක් තුළ එකතුකර ගත් භෞතික, නාමික, කිසිම දෙයක්, කෙස්ගහකවත් දෙයක් මතු උප්පත්තියක් ලබන තැනකට කිසිම කෙනෙකුට ගෙන යා නොහැකිය. මෙහි පළමුවන හා දෙවන කොටස් වලට අයත් සියලු දේ හා අය කොතරම් උපාදානය කර මගේ යැයි දැඩිව අල්ලාගෙන සිටියත්, මරණ මොහොතේ ඒ සියල්ල අතහැර හිස් අතින්ම යා යුතුය.

මෙහි සඳහන් කළ තුන්වැනි කොටසට අයත් ජීවිත කාලයක් පුරා එකතු කරගත්, උපාදානය කරගත් ගබඩා කරගත්, ගති ලක්ෂණ (භව) චිත්තසංථානයේ චිත්තජ ශක්තීන් ලෙස තැන්පත් වී කර්මජ කෝෂයේ ද කර්මජ රූප ලෙසින් ගබඩා වී පවතින නිසා, ඒ ගති

ලක්ෂණ කෙස්ගහකවත් දෙයක් අත නොහැර ඒ සියල්ලම මතු උපතක් ලැබීමේ දී, ඒ මතු උපත ලැබූ විඤ්ඤාණයට ද උරුමයෙන්ම හිමිවෙයි. සංසාර රිය ගමන නොකඩවා ගෙන යාමට උපකාර වන්නේ මේ ගති ලක්ෂණයන්ය. පංචස්කන්ධයේ මරණයත් සමඟ විනාශ නොවන මෙවන් ගති ලක්ෂණයන්, චිත්තජ රූප ලෙස (ජාති) ක්‍රියාත්මක වී, ඒ චිත්තජ රූපවල ශක්තියෙන්ම අලුතින් විඤ්ඤාණයක් ද උපදවාගෙන නැවතත් එකතු කරන්නට පටන් ගනී. මෙසේ අනන්ත සංසාරය තුළ තමාම එකතුකරගත් චිත්තජ ශක්තීන්, ගති ලක්ෂණ, හුරු පුරුදුකම්, මරණ මොහොතේ දී එපා කියා ප්‍රතික්ෂේප කිරීමේ හැකියාවක් ද කිසිවෙකුට නැත.

මිනිසෙකු ලෙස ජීවත්වන මේ ජීවිත කාලය තුළ දී එවැනි නරක ගතිගුණ, ගති ලක්ෂණ අතහැර, සළාහැර චිත්ත පාරිශුද්ධත්වයට පත් වන්නටත් හැම මිනිසෙකුටම හැකියාවක්ද තිබේ. හේතුඵල දහම අසා, එකතු කරන කෙළෙස් දූක (සං දූක) සංවර වීමෙන්, සංසිඳුවීමෙන්, සං නිරෝධ කිරීමෙන් හා සම්මා වීමෙන් එය කරගත යුතුය. මේ මහඟු අවස්ථාවෙන් නිසි ඵල ප්‍රයෝජන ලබා නොගත්තේ නම් ධර්මතාවයෙන්ම එකතුකරගත් දේවල්වල උරුමය සංසාර ගමන පුරාම තමාටම කර ගසන්නට ද සිදුවෙයි. මෙසේ සත්ත්වයෙකු, පුද්ගලයෙකු එකතු කර ගන්නා (සං) ගති ලක්ෂණයන් (භව) බුද්ධ ධර්ම විග්‍රහයේ මූලික කොටස් හයකට බෙදා විග්‍රහ කර පෙන්වා දී ඇත. ඒ මූලික කොටස් හය නම් ලෝභ බව, ද්වේෂ බව, මෝහ බව, අලෝභ බව, අද්වේෂ බව, අමෝහ බව යනුයි. සියලුම ආකාර වූ සංඛාර කිරීමෙන්ම එකතු කර ගන්නා ගති ලක්ෂණ මේ කොටස් හයට බෙදා විග්‍රහ කර දැක්විය හැකිය.

මේ ගති ලක්ෂණ හයට (භව) අදාළ චිත්තජ රූප, චිත්තජ ශක්තීන්, (ජාති) ලෙසින් තම කර්මජ කෝෂයෙහිම තැන්පත් වන නිසා මතු උපතකදී භාවිතා කරන්නට හැකි ඉන්ධන වශයෙන් ද මේවා පෙන්වා දිය හැකිය. මෙසේ ඉන්ධන එකතුකර, ගබඩාකර, තැන්පත් කළේ තම විඤ්ඤාණය විසින්මය. මිනිසෙකු ජීවත්වන කාලය තුළදී ද සිතින්, ක්‍රියාවෙන්, කථාවෙන්, කරන සංඛාර නිසාම මේ ඉන්ධන එකතුකර ගනී.

මේ කරුණු අනුසාරයෙන් මනස මෙහෙයවා තේරුම් ගත යුතු එක්තරා විශේෂ කාරණයක් මෙහිදී පෙන්වා දිය යුතුය. එනම් යම් පුද්ගලයෙකු, සත්ත්වයෙකු උපතක් ලබා ජීවත්වන මේ වර්තමාන ජීවිත කාලය තුළ (සංකල්පය තුළ) විඤ්ඤාණයෙන් කරන, කියන, හිතන බොහෝ දේ, බොහෝ සංඛාර කරන්නේ මතු ජාතියක උපතක් සහතික කර ගැනීම සඳහා අවශ්‍ය බීජ නිපදවා ගබඩා කර ගැනීමට කරන ක්‍රියාවලියකි. වෙනත් වචනවලින් ප්‍රකාශ කළොත් මේ ජීවිත කාලය තුළ සංඛාර කර චිත්තජ ශක්තීන් එකතුකර, ගබඩාකර, බිත්තර වී අටුවේ තැන්පත් කරන්නාක් මෙන් නිරතුරුවම කරන මෙම ක්‍රියාවලිය, මේ ජීවිතයේ පැවැත්මට වඩා මතු ජීවිත උපතක් සහතික කර ගන්නට විඤ්ඤාණය විසින්ම ක්‍රියාත්මක වීමකි. ඒ අනුව තමන්ගේම විඤ්ඤාණය සියලු වෙර වීරිය දරා, සත්ත්වයා මුළාකර, ප්‍රිය, මධුර දේ මවා පෙන්වා "සං" එකතු කරන්නේ, විඤ්ඤාණයේම මතු පැවැත්ම සහතික කර ගැනීමට අවශ්‍ය බීජ එකතුකර ගබඩා කිරීමේ ක්‍රියාවලියක යෙදීම බව පැහැදිලිවම අවබෝධ කරගත යුතුය.

මිනිසෙකු ලෙස උපතලත් ඔබට මේ කරුණු කාරණා හොඳින් අසා තේරුම් ගෙන, මනසින් කල්පනා කර, හේතුඵල දහම දැක, මේ සංසාර ගමනට මුල් වූ සියලු හේතු ද තේරුම් ගත හැකි විය යුතුය. මේ ලෝකයද ඔබේම විඤ්ඤාණය විසින්ම විඤ්ඤාණයේ පැවැත්ම සඳහාම සකස් කරගෙන, පවත්වාගෙන යන එකක් පමණි. ඔබේම විඤ්ඤාණය මේ ආකාරයට එකතු කරගන්නා කුණු දැක කිළිටි, අඳුරු ගති ලක්ෂණ දැක, ඒවා කෙළෙස් බව දැක, ඒ සියලු කුණු සළාහැර, එවන් බීජ නිපදවීම නවත්වා, තැන්පත් කර ගබඩා වී ඇති බීජද සළාහැර, කුණු මල්ල ශුද්ධ පවිත්‍ර කර ගැනීම හෝ තව තවත් කුණු එකතු කර මල්ල පුරවා ඒ බර කරට ගෙන සංසාර ගමන යාම හෝ තෝරා ගැනීම ද ඔබටම අයිති කාර්යයකි.

මීට පෙර ජාතියේදී එකතුකර ගත්, ගබඩා කරගත් ගති ලක්ෂණ හෝ මේ ජීවිතයේදී මෙතුවක් කල් එකතුකර ගත් ගති ලක්ෂණවල හෝ ඵල විපාක විනා පූර්ව සම්බන්ධතාවයකින් තොරව හේතුවක් නැතිව, අහම්බෙන් කිසිවක් සිදුවන ධර්මතාවයක් ලොව නොපවතී. මෙම ධර්මතාවය පැහැදිළිවත්, සරළ ලෙසත් විග්‍රහ කළ බුද්ධ ධර්මය, හේතුඵල ධර්මයයි.

ජීවත්වීම, ජීවිතය පැවැත්වීම යනුවෙන් විඤ්ඤාණ තත්ත්වයෙන් ක්‍රියාත්මක වන තම සිතම මේ සියලු ගති ලක්ෂණ එකතු  කර ගන්නා බවත්, එකතුකර ගබඩා කර ගන්නා බවත් විඤ්ඤාණයම තම මතු පැවැත්ම සඳහා ඒවා භාවිතා කරන බවත් පැහැදිළි විය යුතුය. පුද්ගලයෙකු, සත්ත්වයෙකු, මිනිසෙකු, දෙවියෙකු, බ්‍රහ්මයෙකු හෝ වෙන මොනයම් බලවතෙකු වුවත් මීට වඩා හරයක්, අර්ථයක්, වටිනාකමක් ඇති ක්‍රියාකාරකමක් මේ සංසාර ගමනේ දී කරන්නේ නැත. කම් සැප, රජ සැප, දෙව් සැප, බ්‍රහ්ම සැප ආදී මොනයම් සැප හෝ බලාපොරොත්තුවකට පමණක් හෝ සීමාවූවක් මිස විඤ්ඤාණයේම අවශ්‍යතාවයක් මිස වෙනත් හරයක් අර්ථයක් මෙහි නැත. මිනිසෙකු ලෙස උපතක් ලැබූ මේ ජීවිතයේදී, මිනිස්කමටම පමණක් උරුමයෙන් ලැබුණු මනස මෙහෙයවා, මනස පිරිසිදු කරගෙන, ධර්මය අසා මේ පැවැත්මෙහි සත්‍යය ස්වරූපය දැක, තේරුම් ගෙන සංසාර ගමන දිගින් දිගටම දුක් විඳිමින් පවත්වා ගන්නට උපකාර වන රාග, ද්වේෂ, මෝහ, අලෝභ අද්වේෂ, අමෝහ තව තවත් එකතු කර ගන්නවා ද, සංසාර ගමන නිස්සාර බව දැක ඉන් සදහටම මිදී දුකින් නිදහස් වෙනවාද යන්න නිගමනය කර, ඒ සඳහා අවශ්‍ය ප්‍රතිපත්ති සම්පූර්ණ කර ගැනීමට හැම මිනිසෙකුටම හැකියාව ඇත.

එකතුකර ගන්නා සියලු ගති ලක්ෂණ හොඳ හෝ නරක මෙන්ම පින් හෝ පව් විය හැක. මොනවා වුණත් මේ ගති සංසාර ගමන දිගින් දිගටම සුගතියට හෝ දුගතියට පත්කරවන්නටම උපකාර වන බව දැන, මේ කුණු කද පැත්තකට දමා බරෙන් නිදහස් වී, චිත්ත පාරිශුද්ධතාවයට පත් කරගෙන කටයුතු කරන්නට මිනිසාට උරුම වූ මනස බලවත් අවියකි. මේ අවිය උපකාර කරගෙනම විඤ්ඤාණය විසින් එකතු කරන කුණු දැක, විඤ්ඤාණය ආහාර සඳහා ගබඩා කරගත් කුණු කන්දරාවද දැක, ඒ කිළිටි, කහට, අඳුරු කුණු කන්දරාව එකින් එක මැන තෝරා බේරා සළා හැරීම සඳහා කළ යුත්තේ, බුදුපියාණන් පෙන්වා වදාළ ලෝකෝත්තර කුසලය පූර්ණ කර ගැනීමයි. සංසුන්වීම, සංයමයට පත්වීම, සංවරවීම, සංසිඳුවීම, සං නිරෝධ කිරීම, සම්මා බවට පත්වීම මේ ක්‍රියාවලියයි.

තමන්ම සංසාරය පුරා සාරයි කියා එකතුකර ගත් ගති ලක්ෂණ (කුණු) සළාහැර පිරිසිදු වෙනු මිස වෙනයම් හාස්කමක් මෙහි ඇත්තේ නැත.

මෝහයෙන් මිදී ප්‍රඥාලෝකය උපදවා පහදා ගැනීම යනු විඤ්ඤාණයම එකතුකර ගත් කුණු තට්ටුවලින් වැසී, අඳුරු වී පවතින චිත්තය ඒ කුණු තට්ටු ඉවත්කර පිරිසිදු කර ගැනීමයි. මෝහය යනු චිත්තය කුණුවලින් වැසී, මුවා වී පැවතීමයි. මේ සංසාර ගමනේ ජීවත්වීම නම්, පැවැත්මේ සත්‍යය ස්වරූපය කෙනෙකුට පහසුවෙන් දැක ගන්නට නොහැකි වී මංමුළා වන්නේ මේ මෝහ ගති ලක්ෂණයන් සිතක පවතින නිසාමය. එසේ චිත්තය මුවහ කර, වැසී නොතිබුණේ නම්, විඤ්ඤාණයට පැවැත්මක් ද නැත. මෙයම තවත් ආකාරයකින් විස්තර කළොත් "සං" නැමැති ඉන්ධන එකතුකරන ක්‍රියාවලිය පවතින තුරාවට විඤ්ඤාණය ද ක්‍රියාත්මක වෙයි. විඤ්ඤාණය ඒවාම ආහාර ලෙසින් පරිහරණය කර තමන්ගේම මතු පරිභෝජනයට ද ඒවාම ආහාර ලෙස එකතුකර, ගබඩා කරගනී.

පිරිසිදු චිත්ත තත්ත්වයෙන් පවතින සිතකින් චිත්ත ශක්තීන් (ජාති) හෝ ගති ලක්ෂණ (භව) නිපදවා එකතුකර ගත නොහැකිය. සංඛාර පැවැත්වීම, එනම් මේ "සං" එකතු කිරීමේ ක්‍රියාවලියෙහි පිරිසිදු චිත්තය යෙදෙන්නේ ද නැත. පිරිසිදු චිත්තයකට මතු භාවිතයට ගත හැකි ඉන්ධන (බීජ) ගබඩා කර ගැනීමේ ශක්තියක්ද, අවශ්‍යතාවක් ද නැත. ලෝකය උරා රස බැලීමෙහි ක්‍රියාවලියෙන් ද සම්පූර්ණයෙන්ම ඉවත් වී ඇත. අරහත් තත්ත්වයට පත්වීම යනු විඤ්ඤාණ තත්ත්වයේ පවතින කිළිටි සිත පිරිසිදු කර, චිත්ත තත්ත්වයට පත්කර ගැනීම මිස වෙනත් කිසිවක් නොවේ. අරහත් යනු ලෝකය උරා බී, ලෝකය රහ බලන්නට මෙතෙක් තිබූ පළපුරුද්දෙන් ඉවත් වී, ලෝකය රස බැලීම අතහැර අරහත් තත්ත්වයට පත්වීමයි. එය කළ හැක්කේ ද කරගත යුත්තේ ද විඤ්ඤාණ තත්ත්වයෙන් පවතින මේ හිතම උපකාර කරගෙන බවද අමතක කළ යුතු නොවේ. ඒ සඳහා වෙනත් හිතක් ද නැත.

මෙලෙස විඤ්ඤාණ තත්ත්වයෙන් ක්‍රියාත්මක වන සිතකින් එකතුකර ගන්නා සියලු ගති ලක්ෂණයන් සම්මත ව්‍යවහාර භාෂාවෙන් ලෝකයා, ගතිගුණ, ගති ලක්ෂණ, චර්යා රටා, හුරු පුරුදු, ඇබ්බැහිකම් ආදී විවිධ වචනවලින් හඳුන්වති. මේ මොන වචනවලින් හෝ හඳුන්වන ගති ලක්ෂණ සියල්ලම බුද්ධ භාෂිතයෙහි "භව" යන පදයෙන් හැඳින්වීය. රාග බව, ද්වේෂ බව, මෝහ බව, අලෝභ බව, අද්වේෂ බව, අමෝහ බව ආදී විවිධ "බවට" විඤ්ඤාණය පත්වන්නේ, තම තමන්ම එකතුකර ගත් ගති ලක්ෂණ නිසාමය. පටිච්ච සමුප්පාද දේශණාවේ බුදුපියාණන් විග්‍රහ කර, පැහැදිළි කර දුන්නේ, ඒ ඒ පුද්ගලයාම සංඛාර පැවැත්වීමෙන් එකතුකර ගන්නා ගති ලක්ෂණ (භවට පත්වීම) නිසා, ඒ බවට අදාළ චිත්තජ ශක්තීන් (ජාති) උපදවා ගබඩා කර ගන්නා ආකාරයයි. එය හේතුඵල ධර්මයයි.

මේ ගති ලක්ෂණ (භව) හයම නැවතත් කොටස් තිස් එකකට බෙදා ධර්ම විග්‍රහයේ පෙන්වා දී ඇත. තම තමන්ම එකතුකර ගබඩා කර ගත් ගති ලක්ෂණයන්ට අනුව, තම තමන්ට මතු උරුම වන "ජාති" (උපත්) පෙන්වූ ආකාරය මෙයයි. මේ ගති ලක්ෂණ 31 ට

අදාළව සත්ත්ව ලෝකයද භව 31 කට බෙදා පෙන්වා ඇත. නරකයේ පටන් මිනිස් ලොව, දෙව් ලොව ඇතුලු කාම භව 11 ක් ද, මනෝමය ආත්ම ප්‍රතිලාභය ලබන රූපාවචර බ්‍රහ්ම ලෝක 16 ක් ද, අරූපාවචර ලෝක 4 ක් ද ලෙස මේ භව 31 කට බෙදා පෙන්වා දී ඇත.

මේ හැම ජාතියකම ප්‍රතිසන්ධිය, උපත ලැබීමට හේතුව එකම විඤ්ඤාණය විවිධ තත්ත්වයන්ට, ගති ලක්ෂණවලට (භවට) තමන්ම පත්කර ගැනීමයි. මේ ගති ලක්ෂණයන් හැර තේරුම් ගැනීමට නොහැකි ආශ්චර්යයක් හෝ විශ්ව කර්ම දෙයක් මෙහි නැත. මහා බ්‍රහ්මයා, සක් දෙව් රජ, ආදී සියලුම දෙනාත් මේ සත්ත්ව කොටසටම අයත් ඒ ඒ ගති ලක්ෂණයන්ට පත් වූ විඤ්ඤාණයෙන්ම ජීවත් වන අයයි. ඒ ඒ අය පුරුදු පුහුණු කරගත් ගති ලක්ෂණවලට අදාළවම බලය, ශක්තිය ද උරුම වෙයි.

මේ කාරණයෙන් නියත ලෙස ගම්‍ය වන, තේරුම් ගත යුතු සත්‍යය නම් අද ජීවත්වන, මේ උපතේදී බහුල ලෙස හුරු පුරුදු කරගත් ගති ලක්ෂණවලට අදාළවම මතු උපත ලබන "ජාතිය ද" තීරණය වන ආකාරයයි.

## විඤ්ඤාණය හා සංසාර සම්බන්ධතාව

පෘථග්ජන පුද්ගලයෙකුගේ චිත්තසංථානයේ බිහිවන සියලුම සංඛාර, බලාපොරොත්තු ලෙසින් විඤ්ඤාණයෙහි උපදියි. සමස්ත පැවැත්මම මේ බලාපොරොත්තු පැවැත්වීමයි. අකුසලයක් කරන කෙනෙකු එම අකුසලය කරන්නේ එයින් යම් වින්දනයක්, තෘප්තියක් බලාපොරොත්තු වන නිසාමය. මේ තෘප්තිය යනු ඉන්ද්‍රිය පිනවීමකි. ඒ ඉන්ද්‍රිය පිනවීම සඳහා කළ දේ අකුසලයක් නම්, තමා ලබන තෘප්තිය නිසා තමන්ට හෝ වෙනත් සත්ත්වයෙකුට හෝ පොදුවේ ස්වභාව ධර්මයම හෝ යම් පීඩාවකට පත්වෙයි. මෝහය නිසා මේ කිසිවක් තමන්ට නොපෙනෙයි. දස අකුසලයෙහිම හැසිරීම මෙවැනි අධර්මයෙහි හැසිරීමයි. එනම් ධර්මයට නොගැළපෙන ධර්මතාවන්ට විරුද්ධ වූ සිතිවිල්ලක්, කථාවක්, හෝ ක්‍රියාවක්මය. රාග, ද්වේෂ, මෝහ නිසාම ඇති වූ අවිද්‍යා සහගත සංඛාරයකි.

විඤ්ඤාණස්කන්ධය යනු අතීත, අනාගත, වර්තමාන යන තුන්කලටම අයත් සියලු බලාපොරොත්තුයි. හැම විඤ්ඤාණස්කන්ධයක්ම, අතීතයත් සමඟ සම්බන්ධ වූ අනාගත බලාපොරොත්තු ඇති, වර්තමාන මොහොතක් පවත්වන සත්ත්වයෙකුගේ බලාපොරොත්තුවකි. මේ අතීත, අනාගත, වර්තමාන සම්බන්ධයට හේතුව අවිද්‍යාව හා තණ්හාවයි. සියලු ධර්මයෝ විඤ්ඤාණයට අරමුණු කළ හැකි නිසා ඒවා විඤ්ඤාණයෙහි ආහාර වෙයි. ඒ ධර්මතාවය හැම කෙනෙකුටම පොදුය. ඒ ධර්මතාවය අපට දුක් නොදෙයි. ඒ ධර්මයට අපි බැඳුණොත්, ඵල විපාක ලෙස අපි දුක් විඳිමු. බලාපොරොත්තු නැති කර ගතහොත් නොබැඳෙයි. විඳීමකට, වේදනාවකට හිමිකමක් කියනතාක්, එම වේදනාව විඳීමට කැමති වන තාක්, ඒ වේදනාවට අයිතියක් පවතින තාක්, ඒ දුක ද උරුමයෙන් ලැබෙයි.

ධර්මය අවබෝධ නොවීම, ධර්මය නොදැනීම, අසා දැනගත් ධර්මය නොපිළිපැදීම, ධර්මය නොසළකා හැරීම හෝ ධර්මයෙහි නොහැසිරීම දස අකුසලයටම හේතුවයි.

මෙතැන ධර්මය යනු හේතුඵල දහම පිළිබඳ අවබෝධයයි. හේතුඵල දහම ක්‍රියාත්මක වන ආකාරය එහි සත්‍යය ස්වභාවය දැකීම ධර්මය දැකීමයි. මෝහයෙන් මිදීමයි. මම සිතන සිතුවිල්ල නිසා, කරන කථාව නිසා, කරන ක්‍රියාව නිසා බිහිවන යම් ඵලයක් මගේම නිවන් මඟට බාධා කරයි ද, නිවන් මඟ වසා තබයිද වෙනත් කෙනෙකුගේ නිවන් මඟට බාධා කරයිද, නිවන් මඟ වසා තබයි ද, එසේ නම් එම සිතුවිල්ලෙන්, කථාවෙන්, ක්‍රියාවෙන් වැළකී, එය අතහැර මිදී යාම ධර්මය දැක සතියෙහි පිහිටීමයි. සත්‍යය දැක සිහි නුවණින් ක්‍රියා කිරීමයි. එමෙන්ම මා සිතන, කරන, කියන දේ නිසා යම් කෙනෙකුගේ හෝ මගේම හෝ නිවන් මඟට උපකාරයක් වෙයිද, නිවන් මඟෙහි බාධා මඟහැර විවෘත කර දෙයි ද, ඒ සිතුවිල්ල, ක්‍රියාව, කථාව නිතර ඇසුරු කිරීමත්, බහුලව භාවිතා කිරීමත් ධර්මය දැක සතියෙහි පිහිටා කටයුතු කිරීමයි.

ලෝකය අල්ලාගන්නේ ඇස, කන, නාසය, දිව, කය, මනස ආදී ඉන්ද්‍රියයන් හයෙන්මය. වෙන කිසිදු ආකාරයකින් අල්ලාගත් බිහිකර පවත්වන ලෝකයක් කිසිඳු සත්ත්වයෙකුට නැත. ඇසින් හා කනෙන් රූප ලෝකය උරා බොයි. නාසයෙන්, දිවෙන්, කයෙන් කාම ලෝකය උරා බොයි. මනසින් (සිතින්) අරූප ලෝකය උරාබොයි. මෙලෙස තම ඉන්ද්‍රියන්ගෙන් ලෝකය උරාබොන නිසාම, පානය කරන නිසාම සියලු සත්ත්වයින්ට ප්‍රාණීන් යැයි නම් කරති. පණ ඇති කෙනෙකු යනු, ලෝකය උරා බී පානය කරන තත්ත්වයක සිටීමයි.

මම යැයි මගේ යැයි මේ ඉන්ද්‍රියයන් ගෙන් අල්ලා ගන්නා ලෝකය සාදා සකස් කර ගන්නේ, භුක්ති විඳින්නේ විඤ්ඤාණයෙනි. ඒ විඤ්ඤාණයේ ආහාරයයි. ඒ ආහාර නිසාම ආහාර සඳහාම විඤ්ඤාණය ජීවත්වෙයි.

මෙසේ අල්ලාගෙන පවත්වන්නට උත්සාහ දරන ලෝකය, පංචස්කන්ධය ලෙසින්, අටළොස් ධාතු ලෙසින්, ඉන්ද්‍රියයන් ලෙසින්, ආයතන ලෙසින් ("සං" එකතු කරන තැන් ලෙසින්) දැක ගැනීමට උත්සාහ ගත යුතුය. මේ කොයි ආකාරයට හෝ බෙදා වෙන් කර දැක බලා ගත්තොත්, ලෝකය තේරුම් ගැනීමට පහසු වෙයි. මේ සංසාර පැවැත්ම යනු හේතුඵල දහමේ නොනවතින ක්‍රියාත්මක වීමක් මිස, ශුද්ධාෂ්ටක එකතු කිරීම හා සකස් කිරීම මෙන්ම නැවතත් වෙන් කර විනාශ වීමක් මිස, වෙන කිසිඳු හරයක් මෙහි නැති බව දැකගත හැකිය. මෙය තරමක් ගැඹුරු තේරුම් ගැනීමට පහසු නොවන නමුත් සත්‍ය ප්‍රකාශයකි. විද්‍යාත්මක සත්‍යයයකි.

උපාදානය කරගත් පංචස්කන්ධයෝ, ලෝකය නම් මේ ලෝකය හට ගැනීමට හේතුව කුමක් ද? කාගේ උවමනාවකට මේ ලෝකය හදා ගත්තේ ද? කාගේ උවමනාවකට මේ ලෝකය පවත්වන්නට වෙර දරන්නේ ද? මේ ලෝකය නැවැත්මක් නැතිවම මතු මතුත් බිහිවන්නේ ඇයි? සියලු දුක් විඳින්නේ මේ පංචස්කන්ධය උපාදානය කරගැනීම නිසාම නේද? මේ පංචස්කන්ධය බිහිවීම නැවැත්විය හැකිද? එය නැවැත්විය හැක්කේ කාටද? කෙසේද?

මේ ආදී ප්‍රශ්න රාශියක් පෘථග්ජන සිතක නිරන්තරවම මතුවනු ඇත. තමන්ගේ උත්සාහයෙන්ම තමන්ගේ මනසින්ම කල්පනා කර, භාවනා කර හෝ වෙනත් ආකාරයකින්

මේ ප්‍රශ්නවලට නිසි උත්තර සපයා ගත නොහැකිය. කරුණු අවබෝධ කරගත් යථාවබෝධය ලැබූ උත්තමයෙකුගෙන්ම මෙවැනි ප්‍රශ්නවලට නිසි පිළිතුරු අසා දැනගත යුතුය. මෙය සිරි සද්ධර්මය ශ්‍රවණය කිරීමයි. පරතෝඝෝෂක ප්‍රත්‍ය ලැබීමයි. ඒ අසා දැනගත් කරුණු එකින් එක විපස්සනා කර, මනසින් මෙනෙහි කර, ප්‍රත්‍යක්ෂ කර ගැනීම "දස්සනේන පහාතබ්බා" යනුවෙන් බුදුපියාණන් දේශණා කර පෙන්වූ සත්‍යය දැක ගැනීමයි.

අසා දැනගත් පසුව තම මනසින් තමන්ම තනිවම ඉතිරි ටික කරගත යුතුය. වෙනකාට හෝ අවබෝධ වූ සත්‍යයක් වචනවලට නගා හෝ අකුරින් ලියා හෝ ඉදිරිපත් කළ නොහැකිය. වෙන කවුරු හෝ අවබෝධ කරගත් සත්‍යය ඔබ අවබෝධ කරගත් එකක් ද නොවේ. අසා දැනගත් දේ ආශ්‍රය කොට, උපනිශ්‍රය කොට සත්‍යය අවබෝධ කර ගැනීම තමාම කළ යුතුය. බුදුපියාණන්වහන්සේ ස්වයංභූ ඥාණයෙන් අවබෝධ කරගත් හේතුඵල දහම, චතු අරිය සත්‍යය ලෝකයාට පැහැදිළි කරදෙනු ලැබුවත්, ඒ ධර්මය අපට අවබෝධ වන්නේ අපද ඒ සත්‍යය සමග සම්බන්ධ වීමෙන්ම පමණි. සත්‍යය අත්දැක ගැනීමෙන් ම පමණි. මිනිසෙකුට එය පහසුවෙන්ම කරගත හැකිය.

කළ්‍යාණ මිත්‍රයෙකුගෙන් උතුම් සිරි සද්ධර්මය ශ්‍රවණය කර ලබාගන්නා පරතෝඝෝෂක ප්‍රත්‍ය අනුසාරයෙන් ලබන යථාවබෝධය, සක්කාය දිට්ඨිය දුරුකර ගැනීමටත්, විචිකිච්චාව දුරුකර ගැනීමටත්, සීලබ්බත පරාමාසයෙන් මිදීමටත් උපකාර වේ. මෙම සංයෝජන (බැඳීම්) තුන දුරුකර ගැනීමෙන් සෝතාපන්න තත්ත්වයට පත්වේ. අරිය තත්ත්වයට පත්වේ.

අසාදැන ගත් ධර්මය මෙනෙහි කිරීමෙන්, විපස්සනා නුවණින් සළකා බැලීමෙන් ලෝකය පිළිබඳව සම්මතයන් හාරා අවුස්සා පරමාර්ථ සත්‍යය දැක ගැනීම, සක්කාය දිට්ඨියෙන් මිදීමට උපකාර වේ. සක්කාය දිට්ඨිය නැති කිරීම යනු මමත්වය නැති කිරීම නොවේ. අස්මිමානය නැති කිරීමද නොවේ. තමන්ගේම කය (පංචස්කන්ධය) පිළිබඳව සත්‍යය දැකීමයි. ''ස්ව'' කය පිළිබඳ සත්‍යය අවබෝධ වී මෙය මගේ දෙයක් නොවන බව දැකීමයි.

කුමන හේතුවක ඵලයක් ලෙස මේ කය බිහිවී ද? මේ කය උපන්දා පටන්ම මරණය තෙක්ම වෙනස් වී, විපරිණාමයට පත්වී විනාශ වී යන්නේ ඇයි? මේ තත්ත්වය වෙනස්කර ගන්නට නොහැකි ඇයි? මෙවැනි ප්‍රශ්න දැන් තමාගෙන්ම අසා විමසා දැනගත හැකිය. කාගෙන් හෝ අසාදැන ගත් ධර්මය එලෙසින්ම ගැනීම අන්ධානුකරණයෙන් විශ්වාස කිරීම, බුදුපියාණන් හෝ අරහතුන් වහන්සේ දේශණා කළ නිසා පිළිගැනීම බුදු මඟ නොවේ. අසා දැනගත් දේ කොතරම් දුරට සත්‍යය දැයි තම මනසින්ම, ප්‍රඥාවෙන් විග්‍රහ කර යථාවබෝධය ලැබීම බුද්ධියෙන් දැරීමයි. විමුක්තියට මඟයි.

මම, මගේ, මාගේ ආත්මයැයි ගෙන කටයුතු කිරීම අස්මිමානයයි. මමත්වයයි. මමත්වය නැති කරගත හැක්කේ අරහත් තත්ත්වයට පත් වීමෙන්මයි. ඒ මානය හා අවිද්‍යාව යන සංයෝජනවලින් මිදීමෙනි. අරහත් තත්ත්වයට පත්වන තුරුම යම්

බලාපොරොත්තුවක් (විඤ්ඤාණයක්) මතුවන නිසා "මම" යන සංකල්පයෙන් පූර්ණ ලෙස මිදී ගිය නොහැක. සෝවාන් ඵලයට පත්වීමෙන් නැති වන්නේ සක්කාය දිට්ඨියයි. මාගේ කය යැයි අල්ලාගෙන සිටින මේ පංචස්කන්ධය පිළිබඳව සත්‍යය දැකීමයි.

රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන පංචස්කන්ධයත්, ආපෝ, තේජෝ, වායෝ, පඨවි, ආකාස, විඤ්ඤාණ යන ධාතු පිළිබඳවත් ඇස, කන, නාසය, දිව, කය, මනස යන ඉන්ද්‍රියයන් පිළිබඳවත් අගමුල සොයා දැන ගත හැකි වන්නේ, යම් තරමක සත්‍යය අවබෝධයක් ලැබෙන්නේ සක්කාය දිට්ඨියෙන් මිදීමත් සමඟමය.

සත්ත්වයෙකු, භූතයෙකු, ප්‍රාණියෙකු ලෙස අප හඳුන්වන බිහි වූ සියලුම දෙනාට විඤ්ඤාණයක් ඇත. විඤ්ඤාණයක් නැති තත්ත්වයක් යටතේ විඤ්ඤාණය රහිතව කිසි සත්ත්වයෙකුට ඉපැදීමක් යැයි අප ප්‍රකාශ කරන හේතුඵල ක්‍රියාවලියට සම්බන්ධ විය නොහැකිය. විඤ්ඤාණයෙන් උපදවන චිත්තජ ශක්තීන් චිත්තජ රූප ලෙසින් ඒ ඒ සත්ත්වයාගේ කර්මජ කෝෂයේ තැන්පත් වෙයි. ඒ ක්‍රියාවලිය හිතාමතා හෝ දැන හැඳින හෝ කරන දෙයක් නොවේ. ලොව පැවැත්මට උපකාර වන ධර්මතාවයෙන්ම මේ ක්‍රියාවලිය සිදුවෙයි. එසේ බිහිකර ගත් චිත්තජ ශක්තීන් කර්මජ කෝෂවල තැන්පත් වූ පසුව කල්යල් බලා බීජ නියාමය හා ඍතු නියාමය ආදී නියාමයන්ට අනුව තම තමන් වෙතම ඵල විපාක ලෙසින් ඒවා ආපසු ලැබෙයි. චිත්තජ රූපවල ශක්ති ප්‍රමාණය අනුව ඒ ඒ කර්මජ රූපවල ඵල විපාක හේතුව මෙන් කිහිප ගුණයකින් වැඩි හෝ අඩු විය හැකිය. ඒ කර්මජ රූප ඵල විපාක දෙන්නට නම් ඉන්ද්‍රියයන් බිහි වී තිබිය යුතුමය. ඉන්ද්‍රියයන් ප්‍රයෝජනයට ගන්නේ විඤ්ඤාණයමය. විඤ්ඤාණය තම පැවැත්ම සඳහා කුඩුවක්, ගුහාවක්, කයක් සකස් කරගෙන, ඉන්ද්‍රියයන් ද ඇති ව එහි ලැගුම් ගනී. මේ කුඩුවෙහි අයිතිකරු විඤ්ඤාණයයි. විඤ්ඤාණයට ඕනෑ ලෙසකින් මේ ඉන්ද්‍රියයන් මෙහෙයවනු මිස වෙන කිසිවක් මෙහි සිදු නොවේ. හේතුඵල ධර්මය අවබෝධ කර ගෙන පෘථග්ජන තත්ත්වයෙන් මිදී යාමෙන්ම මේ සත්‍යය දැක ගත හැකිය. එය සෝතාපන්න වීමයි.

සම්මත වචනවලින් "සිත" ලෙසින් අප හඳුන්වන මේ විඤ්ඤාණය "චිත්ත" යන වචනයෙන් ධර්මයේ පෙන්වා දුන් තත්ත්වයම නොවේ. චිත්ත යන තත්ත්වයද සිතෙහිම එක්තරා අවස්ථාවකි. චිත්ත අවස්ථාව ඉතා පිරිසිදු, නිසල, ශාන්ත, නොකිළිටි තත්ත්වයයි. රාග, ද්වේෂ, මෝහ වැනි කිළිටි, කෙළෙස් සහිත බලාපොරොත්තු නිසාම සිත පිරිසිදු චිත්ත තත්ත්වයේ නොපැවැතී විඤ්ඤාණ තත්ත්වයට පත්වෙයි. චිත්ත යන පිරිසිදු තත්ත්වය යටතේ කිසිඳු බලාපොරොත්තුවක් එහි නොඋපදියි.

මේ ජීවිතයේදි බිහිකරගත් චිත්තජ රූප (පසුව කර්මජ රූප) පමණක් නොව අනන්ත අප්‍රමාණ සංසාර ගමනේ දී උපදවා එකතුකර ගත් කර්මජ රූප, තම තමන්ගේ කර්මජ කෝෂවල තැන්පත් වී පවතී. බොහෝ කර්මජ රූප ඵල විපාක දීමට අවස්ථාවක් නොලැබ අහෝසි වී යයි. බලවත් කර්මජ රූප පින්, පව්, අකුසල් සියල්ල කවදා හෝ අවස්ථාව ලැබෙන තුරු ඵල විපාක ලබා දීමට පෙළ ගැසී සිටී. අටුවේ තැන්පත් කළ බිත්තර වී මෙන් තැන්පත්ව පවතින මේ කර්මජ රූප සුදුසු පරිසරය හා පසුබිම සකස් වූ වහාම බිත්තර වී පැළ වෙන්නා සේ ඵල විපාක ලබා දෙයි.

මේ ජීවිතයේදී අප උපාදානය කරගෙන සිටින මේ පංචස්කන්ධයේ කිසිඳු කොටසක් මතු උපතකදී ලැබෙන පංචස්කන්ධයට ගෙන යන්නේ නැත. චිත්තජ ශක්තීන් උපදවන විඤ්ඤාණයද මරණයත් සමඟ විනාශ වී යයි. නමුත් විඤ්ඤාණය බිහි කළ ශක්තීන් දූන් කර්මජ රූප ලෙසින් කර්ම කෝෂවල තැන්පත් ව ඇති නිසා, ඒ ශක්තියෙන් නව විඤ්ඤාණයක් හා විඤ්ඤාණයට නවාතැන් ගැනීමට කුඩුවක් සකස්කර ගනී. සංසාරයේ උපන් හැම ජාතියකම විඤ්ඤාණයෙන් උපදවා තැන්පත් කළ කර්මජ රූප, තම තමන්ගේ උරුමය ලෙස තම කර්මජ කෝෂයේම තැන්පත්ව පවතින නිසා, උරුමයෙන්ම අලුතින් සකස් වූ විඤ්ඤාණයට ද ඒවායෙහි හිමිකම ලැබෙයි. උපන් හැම සත්ත්වයෙකුගේම කර්මජ කෝෂවල මෙලෙස අනන්ත අප්‍රමාණ සංසාරයේ තමන්ම කළ පින්පව්, කුසල් අකුසල්වලට අනුරූප වූ කර්මජ රූප එකතු වී, තැන්පත් වී පවතී. මේවා පෘථග්ජනයන්ට නොපෙනේ. අපට ඕනෑ ලෙසින් ඕනෑ වූ විටකදී මේවා පාවිච්චි කිරීමටද නොහැකිය. ධර්මතාව අනුවම ධර්ම නියාමයන්ට අනුව ම අප කරා ඵල විපාක ලෙසින් ලැබෙයි. සංසාර ගමන පවතින තාක් නිවන් දකිනා ජාති දක්වාම විඤ්ඤාණ ශක්තිය ක්‍රියාත්මකව පවතින්නේ ධර්මතාවයෙන්ම මේවා ඵල විපාක ලෙසින් ලබා දීමටය. විඤ්ඤාණය ක්‍රියාත්මක වන හැම මොහොතකම අලුතින් ශක්තිය නිපදවා අලුත් කර්මජ රූප එකතු කරයි. ඵල විපාක දෙන හැම මොහොතකම තැන්පත් වී තිබූ කර්මජ රූප ගෙවී විනාශ වී යයි. හේතුඵල ක්‍රියාවලිය ලෙසින් හඳුන්වන්නේ මෙම ක්‍රියාදාමයයි. යුතුකම්, වගකීම් හා අයිතිවාසිකම් සත්ත්වයා සංසාර ගමනට බැඳ තබන බැමිය. හේතුඵල ධර්මතාවට අනුව මෙවන් යුතුකම්, වගකීම්, අයිතිවාසිකම් ආදී බැඳීම් තමන් ම බැඳගත්, අල්ලාගත්, අල්ලාගෙන පවත්වන්නට උත්සාහ දරණ සංසාර සම්බන්ධතාවන් හේතුකොට ගෙන ඇති කර ගත් බැඳීම්ය. "සං" එකතු කර අන්ධ ලෙසින් බවට ඇඳෙන බව, බැඳෙන බව පෘථග්ජන පුද්ගලයෙකුට තේරුම් ගැනීම තරමක් අපහසු දෙයකි. විඤ්ඤාණය සත්‍යය වසංකර ඔබව මුළාකර ඇති නිසා මෙවැනි බලාපොරොත්තු යුතුකම් වගකීම් අයිතිවාසිකම් ආදී දේ ඉතාම වැදගත් අනිවාර්යයෙන්ම ඉටු කළ යුතු දේ ලෙස සිහිපත් කරයි. සියලු පෘථග්ජන මිනිසුන් මේ හේතුව නිසාම තම මුළු ජීවිත කාලයම, වටිනා මිනිස් ජීවිතයම, තමාට සම්බන්ධ වූ අයට, සම්බන්ධ වූ දේවලට යුතුකම් ඉටුකිරීමටත්, වගකීම් ඉටුකිරීමටත්, අයිතිවාසිකම් ලබා ගැනීමටත් වැය කරයි. පොදි බැඳගත් මෙවන් බලාපොරොත්තු රාශියක් නිසාම මතු මතුත් සංසාර ගමනට යළි යළිත් බැඳෙයි.

මෙවැනි දැඩි බලාපොරොත්තු ලෙහෙසියෙන් අතහැර ඒවායෙන් මිදී නිදහස් වීම කළ නොහැකිය. බොහෝ අය ජීවත්වන්නේම යුතුකම් හා වගකීම් ඉටුකර දීම සඳහාමය. තවත් බොහෝ අය මුළු ජීවිත කාලයම අපතේ යවන්නේ තම අයිතිවාසිකම් ලබා ගැනීමටය. මිනිසා සියලු ආකාර දුක් විඳින්නේ මේ යුතුකම් අයිතිවාසිකම් සම්බන්ධතා නිසා බව කිසිවිටකත් නොසිතයි. මේ අයිතිවාසිකම් අතහැර, යුතුකම් වගකීම්වලින් මිදී නිදහස ලබාගත් දිනකදී පමණක් නිවන් දැකිය හැකි බව සියලු දෙනාම සිහිපත් කළ යුතුයි.

මේ සියල්ලම සම්බන්ධතාවයන්ය. සම්බන්ධතා යනු "සං" නිසා "බවට" අන්ධ ලෙස ඇඳීම බව සිහිපත් කළ යුතුය. සියලු ආකාර වූ යුතුකම්, වගකීම්, අයිතිවාසිකම්

සංයෝජන බව, සංසාර බැමි බව දැක, ඒ බැම්වලින් නිදහස් විය යුතු යැයි නිගමනය කර, ඒවායින් මිදී නිදහස් වන මාර්ගය අසා දැන, ඒ අසා දැනගත් මග අනුගමනය කළහොත්, ප්‍රතිපත්ති පුරුදු පුහුණු කළ හොත් මේ සියලු සම්බන්ධකම්වලින් නිදහස් වී නිවන් දැකිය හැකි වෙයි. ඒවා අතහැර ඒවායෙහි නොඇලී, ඒවායෙන් මිදී නිදහස් වීම නිවන බව දැක කටයුතු කළ යුතුය. "සං" ශක්තිය එකතු කරන තාක් "බවට" බැඳෙන බව, ඇඳෙන බව යථාවබෝධයෙන්ම දැක, සත්‍ය වටහා ගෙනම කටයුතු කළ හැක්කේ හේතුඵල ධර්මතාව තේරුම් ගැනීමෙනි. විඤ්ඤාණයට වහල්වී මෝහයෙන් කටයුතු කිරීම මෝඩකමයි. පෘථග්ජන පුද්ගලයෙකුගේ සිතට මේ සියලු බලාපොරොත්තු ඇතුලු කරගෙන හොඳයි, යහපත්, සුවයි යන නිගමනයට බසින්නේ විඤ්ඤාණයම මිස මනසින් නොවේ.

මේ හේතුඵල ක්‍රියාවලිය එසේත් නැත්නම් සම්බන්ධකම් පැවැත්වීම යනු ගණුදෙනුවකි. සංසාර ගමනට උපකාර වෙන ගණුදෙනුවකි. ගණු ඇත්නම් දෙනු බිහි වේ. දෙනු ඇත්නම් ගණු බලාපොරොත්තු වේ. යමක් ගත්තොත් එය දෙන්නම සිදුවේ. ණය ගෙවන්නම සිදුවේ. බලාපොරොත්තුවක් ඇතිව යමක් දුන්නොත් එය ආපසු ගන්නත් බලාපොරොත්තු වේ. මුළු විශ්වයේම අපට නොපෙනෙන හේතුඵල ධර්මතාවයේ ක්‍රියාත්මක වීම මේ ගණුදෙනුවයි. හොඳ - නරක, දුක - සැප, යහපත් - අයහපත්, ලාභ - අලාභ, කීර්ති - ප්‍රශංසා, අපකීර්ති - අවමාන ආදී අටලෝදහමට අයත් මොනයම් අංගයක් ගත්තත් මේ ගණුදෙනුව මිස වෙන කිසිම හරයක්, අර්ථයක් වටිනාකමක් මේ හේතුඵල ක්‍රියාවලිය තුළින් දැක ගත නොහැකියි. යථාවබෝධයක් ලැබ මෙහි සත්‍යතාවය තේරුම් ගැනීම ධර්මාවබෝධය ලැබීමයි.

බැම්වලින් තදින්ම බැඳී ඒවා සුවයි, සැපයි, ප්‍රියයි, මනාපයි යනුවෙන් නිගමනය කර ඒවායේ හිරවී සිටින පෘථග්ජනයාට මේ පිළිබඳව සිතීමටවත් නොහැකිය. ඒ බැඳුම් අතහරිනවා, සම්බන්ධකම් අතහරිනවා යනු තනිවෙනවා, පාළුවක් දැනෙනවා, අතරමං වෙනවා වැනි තත්ත්වයක් ලෙස පෘථග්ජන සිත් වලට දැනේ.

මේ සංසාරය පුරාම මෙතෙක් කර ඇත්තේද තවදුරටත් කරන්නේද මාගේ යැයි කියාගෙන අපේ යැයි කියාගෙන යුතුකම්, වගකීම්, අයිතිවාසිකම් යන බැම්වලින් බැඳී, ඒ මතම බිහිකරගත් බලාපොරොත්තු පොදි බැඳගෙන, ඒවා ඉටුකිරීමට හා ඉටු කරවා ගැනීමට දරණ නොනිමෙන උත්සාහයක් පමණයි. මෙය අවිද්‍යා සහගත දෘෂ්ටියක් පමණි. මේ දෘෂ්ටිය ඇති තාක් සංසාර ගමන නිමාකර ගත නොහැකිය. මෙවන් අවිද්‍යා සහගත බලාපොරොත්තු යුතුකම්, වගකීම්, අයිතිවාසිකම් ආදිය පටළවා ගත හොත් ඒවායෙහි අවසානයක්, කෙළවරක්, නිමාවක් නම් දැකිය නොහැකි නිසාම සංසාර ගමනෙහිද කෙළවරක් දකිනු තබා කෙළවර කිරීමට සිතීමද කළ නොහැකිය.

ඒවා පසුපසම ඒවා බලාපොරොත්තුවෙන්ම, තෘප්තියක් නැතිව, විමුක්තියක් නැතිව දිවයාම අසහනය, ගින්න, දාහය, දුක උපදවන හේතුවයි. මේ තත්ත්වයෙන් මිදී නිදහසක්, විමුක්තියක් ලබා ගැනීමට නම්, කෙළවරක් දැක ගැනීමට නම්, මිනිසෙකු ලෙස උපන් මේ ජීවිතයේදී මනස මෙහෙයවා කල්පනාකර හේතුඵල ධර්මතාවය දැක, අවිද්‍යා සහගත බැඳීම් තෝරාබේරා ගෙන, ඊට මුල් වූ හේතුව නැති කිරීමට පියවර ගත යුතුයි. ඵලය දැන් නැති කළ

නොහැකි බව, වෙනස් කළ නොහැකි බව යථාවබෝධයෙන්ම සිහිපත් කළ යුතුය. මෝහය නිසා සියලු මිනිසුන් උත්සාහ ගන්නේම වද වේදනා විඳින්නේම, ඵලය වෙනස් කර ගැනීම සඳහාමය. එහි ප්‍රතිඵලය තව තවත් දාහයට, දුකට පත්වීමයි. ඵලය ගැන නොසිතා හේතුව සොයා, මින්මතු එවැනි හේතුවලින් වැළකී, හේතුව අතහැර නිදහස් වීම පමණක් සැනසීමට මඟ බව දැන කටයුතු කිරීම නිවන් දැකීමයි. හේතුව කරන්නේ තමන්මය.

තමා සංසාරයේ අතරමංවී සියලු දුක් වේදනා විඳින්නේ, මතු මතුත් උපදින්නේ, අසහනයෙන්, ගින්නෙන් දැවෙන්නේ තමා තමාටම කරගත යුතු යුතුකම් හා වගකීම් කොටස අමතක කර දමා අනුන්ගේ දේ ගැනම කල්පනා කිරීමෙන් කටයුතු කිරීම නිසාය. මම, මාගේ නිදහස විමුක්තිය සඳහා කළයුතු කොටස නිවැරදිව අවබෝධ කර ගැනීම මුළින්ම කළ යුතුය. මෙය සම්මා දිට්ඨිය පිළිබඳ ලබා ගන්නා දැනුමයි. අවබෝධයයි.

ලෞකික යනු ලෝකයේ පැවැත්ම සඳහාම උපකාර වන දේ විස්තර කිරීමකි. ලෝකෝත්තර යනු ලෝකයෙන් එතෙර වී නිදහස ලබන මාර්ගය පැහැදිළි කිරීමයි. අවිද්‍යා සහගත සියලු දේ අවිද්‍යා මූලයෙන් බිහිවූ සියලු සංඛාර, හොඳ හෝ නරක වුවත් පින් හෝ පව් වුවත් සියල්ලම ලෞකිකය. ලෝකයේ පැවැත්ම යහපත් හෝ අයහපත් කරන්නටම පමණක් ඒවා උපකාරකය. කුසල මූලයෙන් අරමුණු කළ සංඛාර සියල්ල ලෞකිකත්වයෙන් බැහැර වීමට, ලෝකෝත්තර තත්ත්වයට පත්වීමට උපකාර වන දේය. ඒ නිසා හැම අවස්ථාවකදීම කුසල මූල සංඛාරවලින් බිහිකර ගත් අරමුණු, සිතුවිලි, සතියෙන් දැක, දියුණු කරගෙන භාවිතා කිරීම නිවනට මඟ පෙන්වීමකි. කුසල මූල යනු ලෝභක්ඛය කරන, මෝහක්ඛය කරන, ද්වේෂක්ඛය කරන ක්‍රියා, වදන් හා සිතුවිලිය.

යුතුකම්, අයිතිවාසිකම්, වගකීම්වලද දෙපැත්තක්ම ඇත. අවිද්‍යා සහගත සංඛාර කොටසට අයත් සියලු සම්බන්ධතා තෝරා බේරා ගෙන, දැන හැඳින අත්හැරිය යුතුය. කුසල මූල අරමුණක් වන ලෝභක්ඛය, ද්වේෂක්ඛය, මෝහක්ඛය කරන අයිතිවාසිකම්, යුතුකම්, හා වගකීම් දැන හඳුනා, එවැනි ක්‍රියා, වදන්, සිතුවිලි පවත්වා ගෙන යාම ආශ්‍රය කිරීම, භාවිතා කිරීම, නිතරම නිවන් දැකීමට උපකාරකය. හේතුඵල ධර්මයට බහා බැලීමෙන්ම මේවා හඳුනාගත යුතුයි. දැන ගත යුතුයි.

පින් - පව් සළකා, යහපත - අයහපත සළකා, යුතුකම් - වගකීම් සළකා කටයුතු කිරීම ලෞකික මිස ලෝකෝත්තර නොවේ. හේතුඵල දහම දැක යම් ඵල විපාකයක් ලැබීමට මුල් වූ හේතුව යම් ආකාරයක චිත්ත ශක්තියක් බිහිකරයි නම්, "සං" එකතු කරයි නම්, එය අතහැර ඉන් මිදී හේතුව නිරෝධ කිරීම පමණක් ම "සං" එකතු නොකිරීමට (''සං'' සිඳීමට ) උපකාර වන බව සත්‍යාවබෝධයෙන්ම දැන කටයුතු කිරීම නිවනට උපකාර වන ක්‍රියාමාර්ගයයි.

මෙයින් පැහැදිළි කරන්නට උත්සාහ ගන්නේ සියලු යුතුකම්, වගකීම් හා අයිතිවාසිකම් අතහැරීමක් කිසි ලෙසකින් බුද්ධ දේශණාවෙහි සඳහන් නොවන අතර, සම්බන්ධයක් ඇති කරන, බවට බැඳ තබන, බලාපොරොත්තුවක් බිහිකරන සියලු අයිතිවාසිකම් යුතුකම් හා වගකීම් පමණක් අත්හැර මිදී නිදහස් විය යුතු බවයි.

බලාපොරොත්තුවක් සම්බන්ධයක් බිහිකරයි නම්, ඒ අවිද්‍යාව හේතුකොට ගෙනම ඇති වූවකි. බලාපොරොත්තුවක්, සම්බන්ධතාවක් ඇති නොකරයි නම් එය කුසල මූලයෙන් බිහි වූවකි. හේතුඵල දහම ගැන, චිත්ත ශක්තිය ගැන "සං" එකතු කිරීම ගැන, යථාවබෝධයක් ලැබීමෙන් ම කුසල මූල හා අවිද්‍යා මූල සංඛාර තෝරා බේරා ගැනීමට හැකියාව ලැබෙයි. විපස්සනා කළ යුත්තේ මේ දෙක තෝරා බේරා ගෙන කටයුතු කිරීමටයි. පුරුදු පුහුණු විය යුත්තේ මේ වෙන්කොට දැකීම සඳහාමය. ලෝකයට, ලෝකයාට, මගේ අයට, අපේ අයට, අපේ දේවලට, අපේ තැන්වලට මම සම්බන්ධ වී, ඒවාට බැඳී ඒවාම අල්ලාගෙන, ඒවා මගේ කරගන්නට, අපේ කරගන්නට දරණ උත්සාහය නිසා මම ම නේද මේ සම්බන්ධය ඇති කර ගන්නෙත් යන සත්‍යය දැක ගන්නට උත්සාහ ගත යුතුයි. මම ම කල්පනා කර මේවායින් මිදිය යුතුය යන සිතුවිල්ල පහළ කරගත යුතුයි. මෙය යථාවබෝධයෙන් දැක ගතහොත් එය සම්මා දිට්ඨිය ලැබීමයි. "සං" වලින් පූර්ණ ලෙස මිදීමට අවශ්‍ය බව දැකීමයි.

යම් කෙනෙකු තමා තමාටම ඉටුකරගත යුතු යුතුකම් හා වගකීම් සම්පූර්ණ කරගත් පසුව, කළ්‍යාණ මිත්‍රයෙකු ලෙස පොදුවේ ලෝක සත්ත්වයාටම ඉටු කළයුතු යුතුකම් හා වගකීම් කොටසක් ඇති බව දැක, ඉතිරි මුළු ජීවිත කාලයම ඒ වෙනුවෙන් ගත කිරීම අරිය උත්තමයින්ගේ සිරිතය. මෙය අරිය විහරණයෙහි යෙදීම යනුවෙන් හඳුන්වයි.

මිනිසෙකුට තමා උපන්දා සිට මේ මොහොත දක්වා අතීතය සිහිපත් කර මෙනෙහි කළ හැකිය. මේ අතීතය මියගිය එකක් නිසා කෙස්ගහක ප්‍රමාණයකින් හෝ දැන් වෙනස් කළ නොහැකිය. ඒ මුළු අතීතයම හොඳ හෝ නරක හෝ නැවත නැවතත් මතුකර, සිහිපත් කර දුක් විඳීමද නොකළ යුත්තකි. මිනිසෙකු විඳින සියලු දුක් විඳින්නේ මේ මියගිය අතීතය අල්ලාගෙන, ඒ අතීත සම්බන්ධකම් සිහිපත් කර, ඒ මත්තේම සිත මෙහෙයවීමෙනි. අනාගතයක් පිළිබඳ සිහින මවන්නේද අතීතයක් පැවැති නිසාමය. අතීතය පූර්ණ ලෙස අමතක කර, නිදහස් වීම නිවන් දැකීමට මාර්ගයයි. අතීතය යනු මේ ජීවිතයේ අතීතය පමණක් නොවේ. කල්ප ගණනක් මේ සංසාර සම්බන්ධතා පැවැත්වීම නිසාම ගණුදෙනු බිහිවිය. අපි දැන හෝ නොදැන හෝ කරන සියලු දේ සිතන සියලු දේ එසේ කරන්නේ, කියන්නේ, සිතන්නේ අතීත සම්බන්ධතා මුල් කරගෙන, අනාගත සම්බන්ධතා ගොඩනගා ගැනීම සඳහාමය. ඒ නිසා අනාගත සම්බන්ධතා කෙළවරක් කර නිදහස් වීමට නම්, අතීත සම්බන්ධතාවලින් පූර්ණ ලෙස මිදී නිදහස් විය යුතුයි. මේ සඳහා ගන්නා උත්සාහය සම්මා වායාමයයි. "සං" එකතු කිරීමෙන් පූර්ණ ලෙස මිදී නිදහස් වීමට දරණ උත්සාහයයි.

මේ සියලු සම්බන්ධකම්වලින් මිදී නිදහස් විය යුත්තේ තමාමය. තම සිතෙන්මය. අතීත මතක සටහන්වලින්මය. මෙවන් සම්බන්ධකමක් පවතින අනෙක් පාර්ශවයක් දකී නම්, ඒ පාර්ශවයට පින් පැමිණවීමෙන්, පින් ලබා දීමෙන්, මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා සහගතව මෙත් වැඩීමෙන් හා ඒ පාර්ශවයෙන් සමාව ගැනීමෙන්, මේ සම්බන්ධතාවලින් මිදී නිදහස් විය හැකිය. ඒ සියලු සත්ත්වයන්ටද, මෙවන් සියලු අවිද්‍යා සහගත සම්බන්ධතාවලින් මිදී නිදහස් වීමට හැකිවේවා යන මෙත් සහගත පැතුම නිතර මෙනෙහි කළ යුතුය.

මෙවන් සම්බන්ධතාවලින් මිදීම සඳහා ඊට සම්බන්ධ කිසි කෙනෙක්, කිසි දෙයක්

අප විසින් නැති කළ යුතු නොවේ. අපට ඒ අය නැති කළ නොහැකිය. අප ඒ දේ හෝ ඒ අය නැති කිරීමෙන්, අපේ නිවන් මඟට කිසි උපකාරයක්ද ලබා ගත නොහැකිය. අපට වන ලාභයක් ප්‍රයෝජනයක් ද නැත. ඒ අයගේ පැවතීම හෝ ඒ අය අප හා සම්බන්ධතා පැවැත්වීම හෝ ඒ සඳහා ඒ අය තැබූ බලාපොරොත්තු හෝ අපට බාධක නොවේ. අප ඒවාට පැටලුනොත්, ඒවා අපේ කරගන්නට උත්සාහ ගත්තොත් එයම සම්බන්ධවීමක් නිසා නිවන් මඟ වැසී යයි. සසර ගමන දික්වෙයි. මාගේ නිවන් මඟට ඇතිවිය හැකි එකම බාධකය මගේම සිත ඒ සම්බන්ධතාවල එල්ලී, ඒවා සමඟ බැඳී ඒවා මත්තෙහිම සිත මෙහෙයවීමයි.

මම සියලු දුක් විඳින්නේ උපන් නිසාමය. මගේ උපතට හේතු වූයේ මම, "බවට" සම්බන්ධ වීමයි. සම්බන්ධතා පැවැත්වීමට කැමැත්ත තිබූ නිසාම ලෝකයාට බැඳුණි. විඥ්ඥාණය තම පැවැත්ම දිගටම පවත්වාගෙන යාම සඳහාම මේ සියල්ල කරන බව අවබෝධ කරගත යුතුය. දැන් සත්‍යය අවබෝධ වූ පසුව, විඥ්ඥාණයේ පාලනයට ගෙන පැවැති සියලු ඉන්ද්‍රියන්ගේ පාලනය, මනසට බුද්ධියට පවරා ගෙන ඒවා නිදහස් කර ගත යුතුය.

මේ හේතුඵල ක්‍රියාවලිය පිළිබඳව අගමුල දැන යථාවබෝධය ලැබීමෙන් පසුව මේ ක්‍රියාවලියෙහි වෙනසක් කරගත හැකි එකම සත්ත්වයා මිනිසා පමණි. මේ පැවැත්මට උපකාර වන ශක්තිය උපදවන ශක්ති ප්‍රභවය චිත්ත ශක්තිය බව මනසින් කල්පනා කර දැක ගත හැකිය. චිත්තජ රූප උපදවන උල්පත, සමුදය නැතිනම් ''සං'' උපදවන තැන විඥ්ඥාණයයි. විඥ්ඥාණය ක්‍රියාත්මකව පවතින තුරු ''සං'' උපත ලබයි. ''සං'' උපත ලබන්නේ මෝහය නිසාමය. රාග, ද්වේෂ නිසාමය. මෝහය නිසා තම තමන්ම කරන, කියන, හිතන දේම මේ සියල්ලටම මුල බව දැන් අවබෝධ කරගත හැකි විය යුතුය.

චිත්තයේ කිළිටි බව, අපිරිසිදු බව උපදින්නේ දස අකුසලය නිසාමය. දස අකුසලයෙන් මිදී කුසල් පුරා ගැනීම පිරිසිදු චිත්ත තත්ත්වයට පත්වීමයි. විඥ්ඥාණයේ උපදින සියලුම අවිද්‍යා සහගත බලාපොරොත්තු නිරෝධ කර, උල්පත් සිඳවීම නිවනට මඟයි. ඒ සඳහා කළයුතු ඉන්ද්‍රියයන් හයම සංවර කර ඉන්ද්‍රියයන් පිනවීම නතර කිරීමයි.

විඥ්ඥාණය ඉතා බලවත් එකකි. තම පැවැත්ම පවත්වා ගැනීම සඳහා විඥ්ඥාණය හැම වෙර වීරියක්ම දරණු ඇත. අපව මෝහයෙන් මුළාකර, ප්‍රිය, මධුර දේ මවා පෙන්වා, ගින්න දාහය උපද්දවා බලාපොරොත්තු ඇති කර, ඉන්ද්‍රියයන් සංතර්පණය කරන්නේ විඥ්ඥාණයේ පැවැත්ම කරගෙන යාම සඳහාමය. මේ බොළඳ ක්‍රියා නිසා මුළා වූ වසඟයට පත් වූ සත්ත්වයාට මේ මුළාවෙන් බේරී යථාර්ථය දැක ලෙහෙසියෙන් නිදහස් වී යාමට ඉඩ නොදෙන්නේ විඥ්ඥාණයමය.

විශ්වය,ලෝකය යැයි අප දන්නා අපට පෙනෙන මේ පැවැත්ම තුළම නොපෙනෙන සත්ත්වයින්ගේ ප්‍රමාණය, පෙනෙන සත්ත්වයින්ගේ ප්‍රමාණය මෙන්ම කිහිප ගුණයකි. දේව, බ්‍රහ්ම, අමනුස්ස, ප්‍රේත, භූත, අපාගත, ගන්ධබ්බ ආදී කිසිඳු සත්ත්ව කොටසක් මසැසින් අපට දැක ගත නොහැකිය. මනස දියුණු කරගත් උත්තමයෙකුට මේ සියලු

සත්ත්වයින් දැක ගත හැකිය. ඔවුන් විඳින දුක් කන්දරාව දැක ගත හැකිය. මේ බොහෝමයක් සත්ත්වයෝ අප ආශ්‍රයෙන්ම ජීවත් වෙති. ස්වභාව ධර්මය යැයි අප සම්මතයෙන් අදහස් කරන සියලු දේ අපට වාගේම ඒ නොපෙනෙන සියලු සත්ත්වයින්ටද තම තමන්ගේ පැවැත්ම ගෙන යාම සඳහා උපකාර වෙයි. අපේ පැවැත්මට වාගේම ඒ නොපෙනෙන සත්ත්ව කොට්ඨාසවල පැවැත්මට ඔවුන්, ඔවුන් විසින්ම තම චිත්තජ ශක්තියෙන් උපදවා, බිහිකර ගත් පරිසරය අපි ස්වභාව ධර්මය ලෙසින් හඳුන්වමු. ස්වභාව ධර්මයට විනාශයක්, හානියක් කරන හැම අවස්ථාවකම අපි ඒ නොපෙනෙන අනන්ත අප්‍රමාණ සත්ත්වයින්ගේ අයිතීන් විනාශ කරන්නෙමු.

සාදා බිහිකර නොගත් සංඛතයක් නොවන කිසිම දෙයක් මේ මිහිපිට නොමැත. එසේ සාදාගත් බිහිකරගත් සියලු දේ හැම මොහොතකම ගෙවී විනාශ වී යන අතර හැම මොහොතකම අලුතින් කොටසක් උපදවා එකතු කර ගනී. තම තමන් දූන් නිපදවා එකතු කරන දේ මතු දිනක තම තමාටම ආපසු ලැබෙයි. එය ධර්මතාවයි. හේතුඵල ධර්මය අවබෝධ කර ගැනීමෙන්ම මේ තත්ත්වය දැක ගත හැකිය.

අද සත්ත්වයෙකු ජීවත්වනවා යැයි කරන්නේ මේ උපන් ජීවිත කාලය ගෙවීමට වඩා මතු උපතක් සඳහා වූ පරිසරය සකස් කර ගැනීමෙහි ක්‍රියාවලියක යෙදී සිටීමයි. අප නොදැනුවත්වම එය කරන්නේ විඤ්ඤාණය විසිනි. මතු පැවැත්මක අවශ්‍යතාවය ඇත්තේ විඤ්ඤාණයට මිස කයට හෝ මනසට හෝ නොවේ. අප හේතුඵල දහම යැයි ප්‍රකාශ කර, විස්තර කරන්නේ මේ විඤ්ඤාණයේ හැසිරීම විනා වෙන කිසිවක් නොවේ.

හොඳින් කල්පනා කර බැලුවොත් මේ කිසිඳු හේතුවක් ඉබේ බිහිවී නැත. අපේ කැමැත්තෙන්ම අප බලාපොරොත්තු ඇති කර ගෙනම බිහිකරගත් දේය. මෙතැන මම, අපි කියා ප්‍රකාශ කළත් මනසට අවබෝධ කරගත හැකි එකම ශක්තිය, බලය තමාගේම විඤ්ඤාණයම පමණි.

පටිච්චසමුප්පාද දේශණාව යනු මේ හේතුඵල දහම විස්තර ලෙස පැහැදිළි කර දුන් දේශණාවයි. පටිච්ච සමුප්පාද දේශණාවේ සංඛාර මුලින්ම සඳහන් කර විඤ්ඤාණය ඊළඟට පෙන්වා දී ඇත. ඒ නිසා මේ හේතුඵල ක්‍රියාවලියෙහි මුල සංඛාරවලින් ආරම්භ වේ දැයි කෙනෙකුට සිතන්නට ඉඩ ඇත. නමුත් සංඛාරයක්, ශක්තියක් බිහිකරන තත්ත්වයට පත්වන්නේ එය බලාපොරොත්තුවක් ලෙස එළි දැකීමෙනි. එය විඤ්ඤාණයේම නිර්මාණයකි. මනෝ සංඛාර, වචී සංඛාර, කාය සංඛාර තුනම විඤ්ඤාණයේ ස්පර්ශ වීමෙන්ම බලාපොරොත්තුවක් නිර්මාණය වී චිත්ත ශක්තියක් නිපදවයි. මේ ශක්තිය නිපදවීමේදී විඤ්ඤාණයට උපකාර වන අවස්ථා නවයක්ම "ආදීනව" ලෙසින් පටිච්චසමුප්පාද දේශණාවෙහි පෙන්වා දී ඇත. මේ අවස්ථා නමයම කරුණු දාසයකින් එකින් එකට සම්බන්ධ වන අතර, චිත්ත ශක්තියක් බිහිවීමට (ජාති වීමට) නම් අවස්ථා නමයම (ආදී නවයම) පසුකළ යුතුය.

යම් සංඛාරයක් ජාති බවට පත්වීම පිළිබඳ ක්‍රියාවලිය 96 ආකාරයකින් හේතුඵල දහම ලෙස විස්තර කරදුන් ධර්මයයි. අද පටිච්ච සමුප්පාද ධර්මය යැයි හඳුන්වන්නේ,

භාවිතා වන්නේ මෙයින් දෙකක් පමණි. නිවන් අවබෝධ කර ගැනීමට උපකාර වන කුසල මූල පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහය, සම්පූර්ණයෙන්ම අද යටපත්ව ඇත. පට්ඨාන දේශණාව යැයි අද ගිරවුන් මෙන් කියවන මේ පටිච්චසමුප්පාද දේශණාවෙහි එන කරුණු පිළිබඳව තේරුම් ගැනීමම නිවන් අවබෝධ කර ගැනීමට මහත් උපකාරයක් වනු ඇත.

ජාති බවට පත් වීම නැතහොත් උපතක් ලැබීමට (චිත්ත ශක්තියක් බිහිවීමට) පෙර හැම සංඛාරයක්ම අවස්ථා නවයක්, ආදී නව අවස්ථාවක් පසු කළ යුතුමය. මේ හැසිරීම විස්තර කිරීම සඳහා 96 ආකාරයකින් පටිච්චසමුප්පාද දහම මඟින් කළ විස්තරය පිටු දහසකින් හෝ විස්තර කියා නිම කළ නොහැකි දහමකි. අද මේ දහම යටපත්ව ගොස් ඇති බව කිව යුතුය.

අපේ කැමැත්ත අනුවම කැමැත්ත පරිදිම සංඛාරය කළ නිසා, ඉන් බිහිවන ශක්තියට (ජාති) උරුම වූ ඵලය නිතැතින්ම ලැබේ. ඒ නිසාම අවිද්‍යා මූලිකව හටගත් හැම සංඛාරකින්ම ජාති බිහිවන අතර ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස එහි විපාකයන් වෙයි. මෙහිදී හේතුව කර අවසන් වීමත් සමඟම, ඊට නියමිත ඵලයද ධර්මතාවයෙන්ම උරුම වී ඇත. මෝහය නිසා ඒ තත්ත්වය අපට නොපෙනේ. අපි කැමති ඵල විපාකයක් හෝ අප පැතූ ඵල විපාකයක් හෝ අපට නොලැබේ. හේතුවට ධර්මතාවයෙන් නියම වූ ඵලයම විපාකයම ලැබේ. හේතුව සිදුකර අවසන් වූ පසුව ඵලය වෙනස් කිරීමේ ශක්තියක් අපට නැත. ඵලයට අපි කැමති නැත. ඒ ඵලය එපා කියා අත් හැරීමේ හැකියාවක්ද නැත.

මිනිසෙකු ලෙස උපන් කෙනෙකුට මේ තත්ත්වය මනසින් සිතා සිහියෙන් යුතුව කටයුතු කිරීමෙන්ම පමණක් හේතුවක් (සංඛාරයක්) කරන්නට පෙර එහි ඵල විපාකය, ධර්මතාවයෙන් ලැබෙන උරුමය දැන, එය තමන්ට ගැළපේද, සුදුසු ද යන්න සිතා කටයුතු කිරීමේ හැකියාවක් ලැබී තිබේ. බුද්ධියෙන් දැක, ධාරණය කර, මනසින් විපස්සනා කර තමන් හිතන, කියන, කරන සියලු දේ තමන්ට හෝ වෙනත් සත්ත්වයෙකුට හෝ පොදුවේ ස්වභාව ධර්මයට හෝ කොයි ලෙසකින් බලපායිද? ඉන් අකුසලයක්, අවැඩක්, අසාධාරණයක් සිදුවේ නම් එය නොකිරීමත් එය තමන්ට හෝ වෙනත් සත්ත්වයෙකුට හෝ පොදුවේ ස්වභාව ධර්මයට හෝ යහපතක් සෙතක් සරණක් වේ නම් එය කිරීමත් සතියෙන් කටයුතු කිරීමයි. සතර සතිපට්ඨානය වැඩීමයි. මුළු බුද්ධ ධර්මයේම පදනම මෙයයි.

රාග, ද්වේෂ, මෝහ යන කිළිටි දහම් වලට ප්‍රිය මනාප කරන, ඇලුම් කරන අවිද්‍යා සහගත විඤ්ඤාණයට, හිතුමතේ කටයුතු කරන්නට ඉඩ හැර ඉන්ද්‍රියයන් පිනවීම බුද්ධිමත් ක්‍රියාවක් නොවේ. මෝඩයෙකුගේ හැසිරීමයි. මෝහය නිසාම කරන දේවල්ය. මිනිසුන් ලෙස කරන සියලුම සංඛාර ප්‍රධාන කොටස් 2කට බෙදා පෙන්විය හැක.

1. අවිද්‍යා මූලිකව කරන සංඛාර 2. කුසල මූලිකව කරන සංඛාර

ලෝභ , ද්වේෂ, මෝහ මෙන්ම අලෝභ, අද්වේෂ, අමෝහ යන කොටස් හයම අයත් සියලු සංඛාර අවිද්‍යා මූලිකවම කරයි. එහි ඵල විපාක හොඳ හෝ නරක හෝ විය හැකිය.

පින් හෝ පව් හෝ විය හැකිය. ඒ කුමන ආකාරයක ඵලයක්, විපාකයක් වුවත් සංසාර ගමන දික්කරන හේතුමය.

කුසල මූලයෙන් කරන සංඛාර වන්නේ ලෝභක්ඛය, ද්වේෂක්ඛය හා මෝහක්ඛය කිරීම යන විසංඛාරයෝය. මේ සංඛාර තුනම මතු ඵල විපාක නොදෙන, අතහැර මිදී නිදහස් වීමට උපකාර වන ඒවාය. කුසල මූල යනු කුණු, පහත් දේ සළාහැර නිදහස් වීම යන තේරුමයි. මේ කුසල මූල සංඛාර වැඩීමෙන්ම චිත්ත පාරිශුද්ධිය ලබා විමුක්තිය අත්කර ගත හැකිය. කුසල මූල පටිච්ච සමුප්පාද ධර්මය අද භාවිතයෙන් ඉවත්ව යටපත් වීම නිවන් මඟ වැසී යටපත් වීමට හේතු විය.

අවිද්‍යාව මුල්කර උපදින සියලුම සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ස්පර්ශ, වේදනා, තණ්හා, උපාදාන, භව, ජාති ලෙසට පත් වී ජරා, මරණ, දුක්, දොම්නස්, ශෝක, පරිදේව, උපායාස ආදී සියලු ඵල විපාක දෙවන හෙයින් අවිද්‍යාවෙන් උපන් සංඛාර නිරෝධ කළ යුතුය. එය අවස්ථා නමය පසුකර ජාති බවට පත්වන්නට පෙර නිරෝධ කිරීමෙන්ම චිත්ත ශක්තියක්, උපතක් නොලැබෙන තත්ත්වයට පත්කර ගත හැකිය.

කුසල මූලයෙන් හටගන්නා සියලු සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ස්පර්ශ, වේදනා, පසාදෝ, අධිමොක්ඛෝ, බව, ජාති බවට පත්වේ. ඒවා නිරෝධ කළ යුතු නොවේ. ඒවා ආශ්‍රය කිරීම මගින් චිත්ත පාරිශුද්ධියට පත් වී බුද්ධ ජාතියට පත්වේ. එහි ප්‍රතිඵලය "ඒව මේ තේසං ධම්මානං සමුදයෝ හෝති" යනුවෙන් විභංගප්ප්‍රකරණයේ ඉතා පැහැදිළි ලෙස පෙන්වා දී ඇත.

යමක් අතහැර, නොඇලී, නොබැඳී, මිදී යාම ඵල විපාකවලින්ද නිදහස් වීමයි. යමක් ඇති විටකම ඵලයක් විපාකයක් ලැබෙනු මිස නැති තැනකදී ඵල විපාක ලැබීමක් සිදු නොවේ. එය නිදහස් වීමක්ම පමණි. නිවන යනු සියල්ල අතහැර මිදී නිදහස් වීමයි. නිවන කිසිවිටක ඵලයක් හෝ විපාකයක් හෝ නොවේ. සංඛතයක් ද නොවේ. මේ හේතුඵල දහම, පටිච්චසමුප්පාද ධර්මය මැනවින් තේරුම් ගෙන ගැඹුරින් විපස්සනාකර අවිද්‍යා මූලයන් නිරෝධ කිරීමෙනුත්, කුසල මූලයන් ආශ්‍රය කිරීමෙනුත් භාවනාවක් ලෙස භාවිතා කිරීම නිවන් දැකීමට උපකාර වේ.

සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු ආදිය සාමාන්‍ය මිනිසුන් දකින්නේ මිනිසුන්, සතුන්, ගස් ආදී සම්මත ස්වභාවයෙනි. ඒ තමාට ඇති අවබෝධය හා දැනුම අනුවම දකින ආකාරයයි. ඒ පෘථග්ජන තත්ත්වයෙන් මිදී, අරිය බවට පත්වූ පසුව, මේ සම්මතය මෙන්ම සම්මතය තුළින් දැකිය හැකි පරම සත්‍යය ගැනද වැටහීමක් ලැබෙයි. සක්කාය දිට්ඨියෙන් මිදීම යනු මෙයයි.

සම්මතයෙහි, හොඳයි, යහපත්, නිවැරදියි යන දේ පමණක් සිතමින්, කියමින්, කරමින් සිටීම කිසිසේත් නිවන් දැකීමට ප්‍රමාණවත් නොවේ. සම්මතය ලෝකය පැවැත්වීමකි. ඒ ලෝකය තුළ කොපමණ හොඳ දේ වුවත්, නිවැරදි දේ වුවත් ලෞකිකත්වය තුළම හිරවීමකි. නිවන් දැකීම යනු මේ අයිති කරගෙන සිටින, අල්ලාගෙන සිටින, හොඳ

කරන්නට හදන ලෝකයෙනුත් මිදී යාමයි. කෙස් ගහක් තරම් හෝ සම්මත ලෝකයේ යමක් අල්ලාගෙන සිටියේ නම් ඒ විඤ්ඤාණයෙහි ආහාරයකි. නිවනට බාධාවකි.

ළදරුවෙකු ලෙසින් ලොවට බිහිවූ කෙනෙකු කල්යත්ම ලොකු මහත්වී, මිනිසෙකු වී මහලු වෙයි. අන්තිමේ මිය යයි. දරුවා තරුණයෙකු බවට පත්වූ පසුව ඒ තරුණ තත්ත්වයෙන්ම හැමදාම පවත්වා ගැනීම  අපි හැම කෙනෙකුගේම කැමැත්තයි. අපි කොයි ආකාරයෙන් කැමති වුවත් අපේ කැමැත්තට අනුව මේ ලොව බිහිවූ පවතින කිසිම දෙයක් පැවැත්විය නොහැකිය. ලබාගත නොහැකිය. සිදුනොවෙයි. එය "අනිච්ච" නැමති ධර්මතාවයි. "අනිච්ච" මිස "අනිත්‍ය" නොවේ.

හොඳයි, සුවයි, යහපත්, ප්‍රියයි, මධුරයි යනුවෙන් හිතන, පතන කිසිම දෙයක්, කිසිම කෙනෙක්, කිසිම තැනක් කොපමණ ළංකර ගත්තත්, ආරක්ෂාකර ගත්තත් ඒ සියල්ල සම්මතයන් නිසා වෙනස් වී, විපරිණාමයට පත්වී, විනාශයට පත්වීම සිදු වෙයි. ඉතිහාසයේ අප අසා ඇති හැමදේම, හැම කෙනෙකුම නැතිවිය. දැන් අප දකින සෑම දේම, හැම කෙනෙකුම අපේ ඇස් පනා පිටම වෙනස් වී, නැති වී, විනාශ වී යන්නේය. මතු බිහිවන සියලු දේද මේ ඉරණමටම ගොදුරු වන බව ඒකාන්තය. මේ ධර්මතාව සදාකාලිකව ලොව පවතින ධර්මතාවයි. එසේ නැතිව විනාශ වී යන ලෝකයකින් ස්ථිර බවක්, වින්දනයක් සුවයක් බලාපොරොත්තු වීම මේ දුකට හේතුවයි. අප එවැනි සුවයක්, වින්දනයක්, ප්‍රිය මධුර බවක් බලාපොරොත්තු නොවී ඒවා අපේ කරගන්නට උත්සාහ නොකළේ නම්, ඒ කැඩී, බිඳී, විනාශ වී යන දේ නැති වී, විනාශ වීම ඒවායෙහි ස්වභාවයම බව අවබෝධ කරගත්තේ නම් අපට වේදනාවක්, අසහනයක් ඇති නොවේ. අර්ථයක් නැති, හරයක් නැති, වටිනාකමක් නැති දේ අපේ කරගන්නට අයිතිකර ගන්නට යාමම අපව අනාථ තත්ත්වයට පත් කරයි. මෙය "අනත්ථ" ධර්මතාවයි. "සබ්බේ ධම්මා අනත්ථාති" යනු මෙයයි. මෙය අනාත්ම යන අදහස නොවේ.

"අනිච්ච, දුක්ඛ, අනත්ථ" යන ත්‍රිලක්ඛණය යම් තරමකට හෝ අවබෝධ කර ගැනීම "දුක" පිළිබඳ චතු අරිය සත්‍යය අවබෝධ කර ගැනීමට උපකාර වෙයි. මේ අනිච්ච ලෝකයෙහි අනාථ තත්ත්වයට පත්වීම දුක උරුම වීමට එකම හේතුවයි. මෝහයෙන් මුළා වී, අවිද්‍යාවෙන් අතරමං කරන මේ සියලු සංඛාර, විඤ්ඤාණයේ පැවැත්ම සඳහාම කරන දේ බව තේරුම් ගත යුතුය. මේ දැඩිව අල්ලාගෙන අන්ධ බවින් "බවට" බැඳී සිටින සියලු බැම් වලින් මිදී, ඒවා අතහැර, නිදහස් වීම මොන තරම් සුවයක් විය හැකි දැයි සිතන්නට පවා හැකි වන්නේ ඒ නිදහස අත්විඳගත් කෙනෙකුටමය.

ලෝකයේ පවතින, ජීවත්වන කිසි කෙනෙකු, කිසි වස්තුවක්, කිසි තැනක් අපට බාධා නොකරයි. ඒවා කිසිවක් අපට නැති කළ නොහැකිය. නැති කිරීම අවශ්‍ය ද නොවේ. නැති කිරීමෙන් අප ලබන ලාභයක් හෝ පාඩුවක්ද නැත. ඒවා අපේ ගමන නිමා කර නිවන් දැකීමට කිසි ලෙසකින් උපකාර නොවන අතර බාධකද නොවේ. අප ඒවාට අන්ධ බවින් ඇඳීම පමණක් බාධක වෙයි. ඒ බාහිර පුද්ගලයින්ට, වස්තුවලට අපිම අපේ සිතින්ම සම්බන්ධ වී, ඇලී බැඳී අපේ කරගන්නට යාමම භවට ඇඳීම බව දැන සතියෙන් ඒවා අතහැර නිදහස් වීම නිවනයි.

මේ ජීවිතයේදී අප දැන් ලබා සිටින කය පිළිබඳව නිවැරදි අවබෝධයක් ඇතිකර ගත යුතුය. පසුගිය උපතේදී අපි මියයන්නට පෙර තවදුරටත් ජීවත්වීමේ දැඩි බලාපොරොත්තුවක්, ආශාවක් තිබූ නිසාම ඒ චිත්තජ ශක්තීන්ගේ බලයෙන්ම යළි කයක් ලබා ඉපදුනි. මේ කය මේ ජීවිතයේදී හදාගත් දෙයක් හෝ ලබා ගත් දෙයක් හෝ නොවේ. දැන් අපේ කැමැත්ත, පැතුම, බලාපොරොත්තුව කුමක් වුවත් ලැබූ ඵලය වෙනස් කළ නොහැකිය. ලබා උපන් ආයුෂ අවසන් වෙන තුරු කොපමණ උත්සාහ කළත් අපට මරණය සිදුකර ගත නොහැකිය. මේ ලැබූ ආයුෂ බලයෙන් ගෙවා අවසන් කළ හැකි එකක්ද නොවේ.

මේ තත්ත්වය පිළිබඳව නිවැරදි අවබෝධයක් ලබා උපතේදී ලැබූ හිත, ගත පවත්වා ගන්නට අවශ්‍ය අවම අවශ්‍යතා එය පවතින තුරුම ඉටුකළ යුතුය. මේ කයට දැඩිව නොබැඳී, නොඇලී, ඉන්ද්‍රිය සංතර්පණයෙන්, ඉන්ද්‍රියන් පිනවීමෙන් වැළකී සිටිය යුතුවා වාගේම කයට දැඩි දුක් පීඩා, වද වේදනා දීමෙන්ද වැළකී සිටිය යුතුය. මේ ගත හිත දෙකම සංසාර පුරුදුය. දැන් මේ පුරුදු භාවනාවෙන්, දර්ශනයෙන් හෝ සංවරත්වයෙන්ද පූර්ණ ලෙසින් නැති කර දැමිය නොහැකිය. නිවන් දුටු අරහතුන් වහන්සේටද සිව්පසයම අවශ්‍ය වන්නේ මේ හේතුවෙනි. අටලෝ දහමම ඉවසා දරා සිටීම, එයින් උද්දාම නොවීම, කම්පා නොවීම නියම සංවරත්වයයි. මෙවන් සියලු කරුණු පිළිබඳව යථාවබෝධයක් ලැබූ පසු, හේතුඵල ධර්මතාවය පිළිබඳව සත්‍යය දුටු පසු, කළ යුතු එකම දේ මතු මතුත් මෙවන් දුක් දෙන, වේදනා ගෙන දෙන, රෝග බිය උපදවන, අසහනය දාහය ලබාදෙන, පංච ස්කන්ධයක් උපාදානය කරගන්නට විඤ්ඤාණය දරණ උත්සාහය පරදවා, අවිද්‍යා සහගත සියලු විඤ්ඤාණ ශක්තීන් නිපැදවීම නතර කර, විඤ්ඤාණයේ ආහාර නතර කිරීමයි. හේතුඵල දහමෙහි එන "හේතු නැති තැනකම ඵල නැතිවේ" යන ධර්මතාවය අවබෝධ කර දැරීම බුද්ධ ධර්මයයි. විමුක්ති මාර්ගයයි.

## විඤ්ඤාණ සිත හා අරහත් චිත්තය

බුද්ධ ධර්මය යනු ප්‍රධාන කොටම සිත පිළිබඳව කළ විග්‍රහයකි. හැම කෙනෙක්ම තම තමාගේ සිත පිළිබඳව අධ්‍යයනය කර ධර්මය තේරුම් ගන්නට උත්සාහ කළ යුතුයි.

1. මුළින්ම නිරවුල් ලෙසත්, පැහැදිළි ලෙසත් බුද්ධ දේශණාවෙන් පෙන්වා වදාළ චිත්ත විග්‍රහය කියවා හෝ අසා තේරුම් ගත යුතුය. මොහොතක් හෝ එකම ආකාරයකින් එකම ඉලක්කය කරා පවත්වාගත නොහැකි, පෘථග්ජන සිත, විඤ්ඤාණය, මොහොතින් මොහොත විවිධත්වයට පත්වී, විෂම තත්ත්වයට පත්වී රාග, ද්වේෂ, මෝහ සිතුවිලි අතර ගමන් කිරීමට හේතුව සොයා දැනගත යුතුය.

විඤ්ඤාණය එකතු කර ගන්නා, එකතුකර ගබඩා කර ගන්නා චිත්තජ ශක්ති (ජාති) කර්ම බීජ (භව) ආහාර කොට ගෙනම විඤ්ඤාණය ජීවත්වන බවත්, ඒ කර්ම බීජ ආහාර ලෙස විඤ්ඤාණයේම භාවිතයට ගන්නා බවත් තේරුම් ගත යුතුය.

2. සිතෙහි මෙම ස්වභාවය තේරුම් ගත් පසු, සිතෙහි ක්‍රියාකාරීත්වය නිරවුල්ව දැකගත් පසු තමා සිතන ආකාරය, සිතන විධිය ක්‍රමානුකූලව සකස් කරගෙන සිත විඤ්ඤාණ තත්ත්වයෙන් මුදවා ගන්නට, නිදහස් කරගන්නට සිතම පදම් කර සකස් කරගත යුතු ආකාරයද දැන ගෙන තේරුම් ගැනීම ඉතාම වැදගත්ය.

3. අවිද්‍යාවෙන්, මෝහයෙන්, තණ්හාවෙන් ක්‍රියාත්මක වන විඤ්ඤාණයේ කිළිටි වූ කැමැත්තට වහල් වී කටයුතු කිරීම දැක, විචිකිච්ඡාවෙන් මිදී නිදහස් වීමට දැනගත යුතු කරුණු කාරණා තේරුම් ගත යුතුය.

4. චිත්තසංඨානය යනු කුමක්දැයි තේරුම් ගත යුතුයි. කර්මජ කෝෂයේ, කර්ම බීජ තැම්පත් කරන ස්ථානය, "සං" තැම්පත් කරගන්නා ස්ථානය යනාදී විවිධ වචනවලින් චිත්තසංඨානය නම්කර ඇත. චිත්තසංඨානයේ තැම්පත් වන සෑම කර්ම බීජයක්ම පැළවෙන ශක්තියෙන් යුතු, චිත්ත ශක්තියක් උපදවා ගත හැකි, සංකල්පනා මතුකර ගත හැකි එකක් බවත් තේරුම් ගත යුතුයි.

5. පෘථග්ජන තත්ත්වයෙන් ක්‍රියාකරන හැම සත්ත්වයෙක්ම, මිනිසෙක්ම, දෙවියෙක්ම විඤ්ඤාණය මගින් උපදවා, එකතු කර (සං), ගබඩා කරන කර්මජ බීජ, කර්මජ කෝෂයේ තැන්පත් වී, ගබඩා වී පවතින තුරාවට මතු උපතක් ලැබීමටද නියත වශයෙන්ම ඒවාම භාවිතා කරයි. විඤ්ඤාණ තත්ත්වයක් සිතේ නොපවතී නම් හෝ විඤ්ඤාණයෙන් එකතුකරගත් පැළවෙන ශක්තියෙන් යුතු කර්මජ බීජ, කර්මජ කෝෂයේ ගැබ් වී නැත්නම් හෝ ඒ සත්ත්වයාට මතු උපතක් ලබන්නට කිසිම ආකාරයක හේතු ද නැත.

6. අරහතුන් වහන්සේගේ සිත ඉතා පිරිසිදුය. විඤ්ඤාණ තත්ත්වයෙන් මිදී නිදහස් කරගත් සිතකි. "සං" එකතු නොකරන "සං" එකතු කර ගබඩා නොකරන, පැළවෙන තත්ත්වයේ කර්මජ බීජ වලින්ද පූර්ණ වශයෙන්ම තොර කරගත්, හිස් කරගත් කර්මජ කෝෂයක් සහිත චිත්තසංඨානයේ ඇති තත්ත්වයයි. අරහතුන් වහන්සේ ද මිනිසෙකු ලෙස උපත ලැබුවේ විඤ්ඤාණ තත්ත්වයේම පැවති සිතකිනි. ඒ විඤ්ඤාණ සිතම ප්‍රයෝජනයට ගෙන, උපකාර කරගෙන ඒ විඤ්ඤාණ චිත්තයේ එකතු කරගත් ගබඩා වී පවතින කුණු දැක, ඒ කුණු සළාහැර ශුද්ධ පවිත්‍ර වී, අලුතෙන් කුණු එකතු කිරීමද (සං) සහමුළින්ම නවතා දමා නිදහස් වීමෙන් අරහත් තත්ත්වයට පත්විය. මේ අනුව අරහත් තත්ත්වයට පත් වූයේ ක්‍රියාවෙන්මය. ලෝකය රහ බැලීමේ ක්‍රියාදාමයෙන් වෙන් වීමෙන්ය.

අරහත් තත්ත්වයට පත් වූ සිතක මොනයම් හෝ ආකාරයක ලෞකික බලාපොරොත්තු නොඋපදියි. එය පිරුණු සිතකි. ලෝකය මැනබලා අඩුපාඩු එකතු කරන්නට හෝ ලෝකය රස බලන්නට හෝ රස විඳින්නට හෝ කිසිම අවශ්‍යතාවක්, කැමැත්තක් නැත. සහමුළින්ම විඤ්ඤාණ තත්ත්වයෙන් චිත්ත තත්ත්වයට සිත මුදා

නිදහස් කරගෙන ඇති නිසා විඤ්ඤාණ ආහාර හෝ සංචේතනා ආහාර හෝ ස්පර්ශ ආහාර හෝ සෙවීමේ අවශ්‍යතාවක්ද නැත. මානයෙන්, මමත්වයෙන් මිදී ඇති නිසා සතුටුවන්නට හෝ සොම්නසට පත්වන්නට මෙන්ම දුකට පත්වන්නට හෝ දොම්නසට පත්වන්නටද නොහැකිය. කම්පාවන්නට හෝ උද්දාමයට පත්වන්නේද නැත.

අරහත් තත්ත්වයට පත්වූ සිතක කිසිම ආකාරයක දෘෂ්ටිගත වීමක් නැත. සියලුම දෘෂ්ටින්ගෙන් මිදී නිදහස් වී ඇති නිසා තවත් කෙනෙකු සමග වාද විවාද කර දිනාගන්න, ජයගන්න දෘෂ්ටියක්ද නැත. තමන් තුළ දෘෂ්ටියක් ගත් කෙනෙකු වාද විවාද කර, අනිකාගේ දෘෂ්ටිය පරදවන්නත්, තමන්ගේ දෘෂ්ටිය ජය ගන්නත් ක්‍රියා කරනු ලබයි. ඒ නිසාම බුද්ධ ධර්මයත් අතක්කාවචර දහමක් සේ බුදුපියාණන් පෙන්වා වදාළහ. තර්ක කර, වාදකර සපථ කිරීමට හෝ සනාථ කිරීමට හෝ අනාථ කිරීමට හෝ දෙයක්, දෘෂ්ටියක් අරහතුන් වහන්සේ තුළ නැත. යම් කෙනෙකු සමග වාද විවාද කරන්නේ තමන්ගේ දෘෂ්ටිය දිනවීමටයි. නිවැරදි බව ඔප්පු කිරීමටයි. බුද්ධ ධර්මය යථාපරිදි තේරුම් ගත් රාගයෙන් තොර, ද්වේෂයෙන් තොර, මෝහයෙන් තොර අරහතුන් වහන්සේට දිනීමක් හෝ පැරදීමක් අවශ්‍ය නොවේ. මේ නිසා කැළඹීමක්, භයට පත්වීමක්, කම්පනය වීමක්, කෝප වීමක්, අරහතුන් වහන්සේගේ සිතට ඇති නොවේ. මෙය "අකුප්පා චේතෝ විමුක්තියයි."

අරහතුන් වහන්සේගේ සිතෙහි ශ්‍රද්ධාවක් ඇත්තේද නැත. ඒ නිසාම "අසද්දෝ" යනුවෙන් හඳුන්වයි. ශ්‍රද්ධාවක් ඇතිවිය යුත්තේ යම් විශ්වාසයක් පවත්වා ගැනීමටයි. අරහතුන් වහන්සේට විශ්වාසයෙන් පිළිගැනීමට දෙයක් නැහැ. ප්‍රඥාවෙන් ඇති තතු නිවැරදිව දුටු නිසා වෙනත් කෙනෙකු හෝ බුදුපියාණන් කියා දුන් දෙයක් හෝ විශ්වාසයෙන් පිළිගත යුතු තත්ත්වයක් නැහැ.

මමත්ත්වය, මානය, දෘෂ්ටි, අවිද්‍යා යන ගති සියල්ලෙන්ම නිදහස් වූ අරහතුන් වහන්සේට මමත්ත්වයක් නැති නිසා දිනා ගන්න හෝ පරාජය කරන්න කෙනෙක්ද නැහැ. මම යනුවෙන් මිනුමක් පවතින තාක් කල් ජය, පරාජය යන අන්ත දෙකක් පවතී. මදයෙන් මිදුණු, මජ්ඣිමා තත්ත්වයට පත්වූ අරහතුන් වහන්සේට මමත්ත්වය මැන බලන්නට කෙනෙක්, තැනක්, ධර්මයක් හෝ අවස්ථාවක්ද නැති නිසා, හේතුඵල පරම්පරාවකට සම්බන්ධ වී කටයුතු කිරීමෙන්ද සම්පූර්ණයෙන්ම ඉවත්වී ඇත.

නිවන සුඤ්ඤතයි යනුවෙන්ද සඳහන් වේ. අරහත් තත්ත්වයට පත්වූ උත්තමයාට පෘථග්ජන ලෝකයා සිතන, පතන, දකින, විඳින සාරයක් වටිනාකමක් මේ ලෝකය තුළින් දැක ගන්න හෝ විඳගන්න නොහැකියි. "සංසාරයි" යනු එකතු කරගත් දෙයකම සාරයක් දැකීමයි. නිවන යනු එකතු කරගත් සියලු දේවල ඇත්ත ඇති සැටියෙන් දැක, එහෙම නැතිනම් එකතු කරගත් සියලු දේ කුණු ගොඩක්, බරක් බවම දැක, ඒ බරෙන් කුණු ගොඩෙන් මිදී නිදහස් වූ තත්ත්වයයි. නිවනේ එකතු කරගත් කිසිම දෙයක් නැති නිසා එය සුඤ්ඤතයි.

නිවන අප්පණිහිතයි, අනුභූතයි. ප්‍රතිෂ්ඨාපනය කරන්න බිමක් හෝ බිහි කරන්න බීජයක් එතන නැහැ. යම් බීජයක් පැළ වෙන්න නම් බිමක් අවශ්‍යයයි. නිවනේ බිමක් හෝ

පය ගහන්න තැනක් හෝ නැහැ. ආපෝ, තේජෝ, වායෝ, පඨවි යන සතර මහා භූතයින් එකතු කර කූඩු හදන්න අවශ්‍ය චිත්ත ශක්තියක් නිවනේ නැහැ. දස බිම්බර මාර සෙනඟම එතන නැහැ. නිවන යනු බිමට බරවී පැවතිය හැකි ආකාරයේ සියලුම කරුණුවලින් නිදහස් වූ තත්ත්වයයි.

අරහතුන් වහන්සේ කිසිම සංකල්පයකට යටත් නොවේ. සංකල්ප යනු අතීත කාල පරාසයේදී එකතු කරගත් කර්ම බීජයි. ලෝකය රස බැලීමෙන් ඉවත් වූ, රස බැලීම අවසන් කළ අරහතුන් වහන්සේ කිසිම දෙයක් එකතු නොකරන නිසා, එකතු කර ගබඩා නොකරන නිසා සංකල්පනා පවත්වන්නේ නැහැ. සංකල්පනා පවත්වන හැම කෙනෙක්ම කරන්නේ අතීතය පීරා බලා, රස විඳින්න යමක් එකතු කරගැනීමයි. අරහත් තත්ත්වයට පත්වූ උත්තමයා ලෝකය රහ බැලීම නිස්සාර දෙයක්, අර්ථයක්, වටිනාකමක් නැති දෙයක් බව ප්‍රත්‍යක්ෂ ලෙසම දුටු කෙනෙකි. ගෙයක් යනු සංකල්පයකි. එකතු කර හදාගත් දෙයකි. අරහතුන් වහන්සේ ගෙයකට යනවා යනු ගෙයි ලස්සන බලන්න, අඩුපාඩු බලන්න, සැප පහසුකම් විඳ ගන්න හෝ එය සංසන්දනය කරන්න යනවා නොවේ. හිතින් දැඩිව අල්ලා ගන්න, එකතු කර ගන්න, උපාදානය කර ගන්න කිසිම දෙයක් අරහතුන් වහන්සේ ගෙයක නොදකී. එහි ඇත්තේ ආපෝ, තේජෝ, වායෝ, පඨවි, වර්ණ, ගන්ධ, රස, ඕජා යන ශුද්ධාෂ්ටක පමණයි. දුටු දේ දැකීම් මාත්‍රයක් පමණයි. අරහතුන් වහන්සේ භාවිතා කළ දේ, භාවිතා මාත්‍රයකට පමණක් සීමා කර සිතින් අත් හරී. පෘථග්ජන මිනිස්සු දුටු දේ භාවිතා කරන දේ, සිතින් දැඩිව අල්ලා ගෙන, රස විඳ, ඒ රසය නැවත නැවතත් විඳින්න කැමති වී ඒ සඳහාම දුක් විඳගෙන බොහෝ ක්‍රියාකාරකම් කරති. විඤ්ඤාණ තත්ත්වයෙන් මිදුණු සිතකට මේ කිසිවක් අල්ලා ගැනීමට, එකතු කර ගැනීමට, උපාදානය කර ගැනීමට නොහැකියි. ඒ නිසා අරහතුන් වහන්සේත් ගෙට ඇතුලු වෙනවා, ගෙයින් පිටවෙනවා. නමුත් ගේ කියන සම්මතයට, සංකල්පයට බැඳුනේ නැහැ.

මේ වාගේම "මම" යන මේ ශරීර කූඩුවත් ගෙයකි. සංකල්පයකි. මම යනුවෙන් අල්ලා ගත්, පනවා ගත් මේ සංකල්පනා පවතින තුරු පෘථග්ජනයා මම ගැන, මගේ දේවල් ගැන, මගේ අනාගතය ගැන, මගේ අය ගැන විවිධ ආකාර වූ සංකල්පනා පවත්වති. මේ වගේ කූඩු, ගෙවල් කෝටි ප්‍රකෝටි ගණනක් අතීතයේ දී හැම කෙනෙක්ම හැදුවත්, ඒ එකම කූඩුවක්වත් ඒ අයට කැමති සේ පවත්වන්නට හෝ විනාශය වළක්වා ගන්නට හෝ නොහැකි විය. කූඩු හදන්න, අල්ලගන්න උත්සාහ දැරීම නිසාම අනාථ තත්ත්වයටම පත්විය. මේ කූඩුවේ ඇති තතු නියම ආකාරයෙන් දුටු පසුවත් තවත් මේ වගේ කූඩු හද හදා අනාථ තත්ත්වයට පත්වීමට ක්‍රියා කිරීමේ හරයක් නැති බව දුටු උත්තමයා අරහත් තත්ත්වයට පත් වූ උත්තමයායි.

අරහත් තත්ත්වයට පත් වූ උත්තමයාගේ මූලික ලක්ෂණය ප්‍රඥාව පහළ වීමයි. ප්‍රඥාව යනු බුද්ධිමත් බව හෝ නුවණ හෝ දැනුම හෝ නොවේ. මේ ලෝකයේ ක්‍රියාත්මක වන හේතුඵල ධර්මතාවය පිළිබඳ වූ ධර්ම ස්වභාවය, හැසිරීම් රටාව, ඇති නැති වීම (චුති උපත) විනිවිද දකින්න හැකි අලෝක තත්ත්වයක් ප්‍රඥාව ලෙස අර්ථ දැක්විය හැකිය. එය රාගයෙන් තොර, ද්වේෂයෙන් තොර, මෝහයෙන් තොර, ප්‍රභාස්වර වූ තත්ත්වයකි. සත්ත්ව, පුද්ගල දෘෂ්ඨියෙන් ගස්ගල් ලෙස පෘථග්ජනයා දකින කිසිම දෙයක් අරහතුන්

වහන්සේ ඒ ආකාරයටම නොදකී. ඒ සියල්ල භාග කර, බෙදා බලා, මේ ගත හිත එක් කර, වතක් හදාගත් ආකාරය දකී. එනම් සමුදය ධර්මතාව නිවැරදිවම දකී. "සං" උපත දකී.

දුක්, සැප සියල්ලම ඇති වෙන්නේ තමන්ම යමකට ප්‍රිය මනාප වීම නිසයි. ජාති, ජරා, මරණ, ශෝක, දුක්, පරිදේව, උපායාස ආදී සියලු දුක් කන්දරාවම බිහිවන්නේ මේ පංචස්කන්ධය කැමැත්තෙන්ම උපාදානය කරගත් නිසයි. සිතෙහි ප්‍රිය මනාප ස්වභාවයක්, කැමැත්තක් බිහිවෙන තුරා, පවතින තුරා, දුක් සැප දෙකම නියත වශයෙන් උරුම වේ. සැප විඳින්න, ප්‍රිය මනාප දේ අල්ල ගන්න, උපාදානය කරගන්න, ඒවාට සම්බන්ධ වෙන්න කටයුතු නොකළේ නම්, ඒ කිසිවක් දුක් දීමට, දුක් උරුම කරදීමට සමත් නොවේ. අරහතුන් වහන්සේ සැප විඳීමට, ප්‍රිය මධුර දේ අල්ලා උපාදානය කරගන්නට, ඒ ප්‍රිය මධුර දේ සමඟ සම්බන්ධ වන්නට කටයුතු නොකරන නිසා අනිච්ච, දුක්ඛ, අනත්ථ ත්‍රිලක්ඛණය මැනවින් යථාවබෝධ කරගත් නිසා සැප විඳින්නේ නැහැ. දුක් විඳින්නේත් නැහැ. ඒ දෙකම උපේක්ඛාවෙන් ඉවසයි. ඒවායේ පටළැවෙන්නේ නැහැ.

"දිට්ඨෙව දිට්ඨ මත්තං භවිස්සති, සුතේව සුත මත්තං භවිස්සති, මුතේ මුත මත්තං භවිස්සති, විඤ්ඤාතේ විඤ්ඤාත මත්තං භවිස්සති, නෙව ඉධ න හුරං න උභයමන්තරේ ඒසෝවන්තෝ දුක්ඛක්ඛන්ධස්ස", භාහිය ධාරුචීරියතුමාට බුදුපියාණන් වහන්සේ මේ ආකාරයෙන් පැහැදිළි කළේ අරහතුන් වහන්සේගේ නියත ලක්ෂණ සමූහයයි. සියලු දුක් කන්දරාවම අන්තයට පත් කිරීමට, අතහැරීමට ඇති එකම ක්‍රමය මෙයයි. නිවන අජරයි, අමරයි, අසෝකං යනුවෙන් ඔබ හැම කෙනෙක්ම අසා ඇති. අජරා යනු ජරාවට පත් නොවන, නොදිරණ, ජීර්ණ නොවන යන තත්ත්වයයි. අමර, මරණයට පත් නොවන, මරුට ණය නොගෙවන යන අර්ථයයි. අසෝකං, ශෝක නොවන බවයි. අපෝ, තේජෝ, වායෝ, පඨවි යන කොටස් එකතු කර හදා ගත් යම් දෙයක් එකතු කරන්නට හේතු වූ ශක්තිය, ශක්ති ප්‍රභවය ගෙවී යත්ම, විපරිණාමයට පත්වෙලා, දිරල, ජරාවට පත්වේ. නිවන යනු එකතු කර හදාගත් සියල්ලෙන්ම මිදී නිදහස් වී, එකතු කිරීම නවත්වා, එකතු කිරීම අවසන් කර සම්මා තත්ත්වයට පත්වීමයි. එතන දිරන්න, මැරෙන්න දෙයක් නැහැ.

මේ පැවැත්මේ මිනිස් බව, දෙව් බව, බ්‍රහ්ම බව ආදී සියලු සුගති ලෝකයන් පවා ජරාවට, මරණයට පත්වන සුළුයි. අජර, අමර, හෝ අසෝකං තත්ත්වයට පත්වන්නට කිසිම දෙවියෙකුට, බ්‍රහ්මයෙකුට, මිනිහෙකුට නොහැකියි. බව නිරෝධය මගින් ජාති නිරෝධ කළ අරහත් උත්තමයෙකුට පමණක් අජර, අමර තත්ත්වයට පත්විය හැකියි.

"නිවන් දකිනවා, නිවන් අවබෝධ කරගන්නවා" යනු මේ සංසාර ගමනේදී මෙතුවක් කලක් යම් රටාවකට බැඳී, යමක් එකතුකර, එහි සාරය දැක ගිය ගමන් මඟ පිළිබඳව ඇත්ත ඇති සැටියෙන් දැකීම, මනාසේ තතුසේ දැක ගැනීම නිසා ලෝකය රහ නොබලන තත්ත්වයට නිදහස් වීමයි. ලෝකය රහ බලන්නට හදාගත් හේතුඵල පරම්පරාවෙන් නිදහස් වීමයි.

"විසංයුත්තෝ තං න වේදති" යනු මෙම තත්ත්වයයි. මෙය "සංඥා වේදයිත නිරෝධ සමාපත්තිය" ලෙසද හැඳින්වේ. එකතු කරගත් යම් දැනීමක්, සංඥාවක් නිසා

වේදනාවක් ලබයි නම් එතැන "සංයුත්තෝ තං වේදති" යන රෝද කිරීම පවතී. දැනීමක් සංඥාවක් එකතු කරගනු ලබන්නේ ඉන්ද්‍රිය හයෙන්ම පමණි. "විසංයුත්තෝ" යනු එකතු කිරීමෙන් වෙන්වීම, වැළකීමයි. ඒ නිසා ඉන්ද්‍රියයන් හයෙන්ම ලබාගන්නා සංඥා නිරෝධ කිරීමෙන් ලබන සමාපත්තිය නිවනයි.

අරහතුන් වහන්සේගේ ලක්ෂණ විස්තර කිරීමට යොදාගත් තවත් පද කිහිපයක් දැන ගැනීම වැදගත් වේ. "ආවුසෝ, අනුපායෝ, අනපායෝ, අනිස්සිතෝ, අප්පටිබද්ධෝ, විප්පමුත්තෝ, විසංයුත්තෝ, විමරියාදිකතේන"

''අනුපායෝ" - රාගයෙන් තොර, රාග විරාග කළ.

"අනපායෝ" - මෙත් සිත පැතිර වූ, ද්වේෂයෙන් තොර.

"අනිස්සිතෝ" - තණ්හා මාන, දිට්ඨි වශයෙන් තැනක නොඇලුනු.

"අප්පටිබද්ධෝ" - බද්ධ වූ, බැඳුනු සියලු පටි ලෙහා ගළවා නිදහස් වූ.

"විසංයුත්තෝ" - සං එකතු කිරීමේ ක්‍රියාවෙන් වෙන් වූ, එකතුකර ගන්නා අතීත "සං" භාවිතයෙන්ද වෙන් වූ.

"විමරියාදිකතේන" - මානයෙන් තොර, සීමා මායිම් පැනවීමෙන් මැන බලා කටයුතු කිරීමෙන් තොරවූ.

මේ සියලු ආකාරවූ ගති ලක්ෂණ අරහතුන් වහන්සේලා සතු උතුම් ගුණාංගයෝය.

* * * * * * * * * *

# සබ්බේ සත්තා ආහාරට්ඨිතිකා

සියලුම සත්ත්වයින් ආහාර නිසාම ජීවිතය රැක ගනී. සමහර සත්ත්වයින් ජීවත්වීමට ආහාර සොයා ගනී. තවත් බොහෝ සත්ත්වයින් ජීවත්වන්නේ ආහාර සොයාගැනීම සඳහාය.

බුදුපියාණන් දේශණා කළ ආහාර පිළිබඳ විග්‍රහයට අනුව සත්ත්වයෙකු, පුද්ගලයෙකු පරිභෝග කරන ආහාර මූලික කොටස් හතරකට බෙදා වෙන් කර පෙන්වීය.

| | | | |
|---|---|---|---|
| 1. | කබලිංකාර ආහාර | 2. | සංචේතනා ආහාර |
| 3. | ස්පර්ශ ආහාර | 4. | විඤ්ඤාණ ආහාර |

මේ සතර වර්ගයේම ආහාර භාවිතයට ගැනීම, ලෝක සත්ත්වයා ලෝකය උරා බීම ලෙසින්ද විග්‍රහ කර ඇත. ලෝකය උරා බී, ලෝකය රහ බලන්නටම ජීවත් වන සියලු පෘථග්ජන සත්ත්වයින් මේ ආහාර සතර වර්ගය සඳහාම ජීවත් වෙති. මේ ආහාර නිසාම ජීවත් වෙති. සතර ආකාර වූ සියලු ආහාරයන්හි රස බැලීම පූර්ණ ලෙසින්ම අතහැර, ලෝකය රහ බැලීම අවසන් කරන උත්තමයා අරහත් යන නමින් හැඳින්විය. මෙහි සත්‍යය දැක ගැනීමට ආහාර වර්ග හතර පිළිබඳව සොයා බලා නිවැරදිව තේරුම් ගත යුතු වෙයි.

## 1. කබලිංකාර ආහාර (ක+බලිං+ ආකාර)

කබලිංකාර යන පදය කය බලියක ආකාරයට පත් කරන ආහාර යන තේරුම් ඇති පදයකි. කය බලියක් ආකාරයට පත්කරන්නට උපකාර වන සියලුම ආකාරයේ ආහාර මේ කොටසට අයත්ය. කැබලිකර කන ආහාර යන තේරුමක් මෙහි නැත. කටින් ගන්නා සෑම ආහාරයක්ම, පානයක්ම මේ කොටසට අයත්ය. ඊට අමතරව කය බලියක් සේ හැඩ ගන්වන ඇඳුම් පැළඳුම්, මාලා, ගන්ධ විලේපන, කය සැරසීම්, හිස සැරසීම්, පා සැරසීම්, ආදී සියලු ආකාර වූ දේද මෙම කොටසට අයත්ය. රන් රිදී භාවිතයද මීට අයත්ය.

රස තණ්හාව නිසා කටින් රස බලන්නට ගන්නා සියලු ආහාර වලින් කයේ ස්වරූපය බලියක හැඩයක් ගන්නා නිසා ඒ සියල්ලද කබලිංකාර ආහාර කොටසටම අයත් වේ.

අරහත් තත්ත්වයට පත්වීම යනු මේ සියලු ආකාර වූ ආහාර රස බැලීම අත්හැරීමයි. ආහාර ගැනීම අත්හැරියා නොවේ. සිවුපසය ගැනීම අත්හැරියා නොවේ. රස බැලීම සඳහා රස තණ්හාව සඳහා ආහාර පරිභෝග කිරීම සම්පූර්ණයෙන්ම අත්හැරීම මෙහිදී සිදු වෙයි. කන බොන ආහාර වළඳින්නේ දිවි රැක ගන්නට මිස රස විඳින්නට රස බලන්නට නොවේ. සිවුරු පළඳින්නේ සීතයෙන්, උෂ්ණයෙන් බේරී විළි වසා ගන්නට මිස කය සරසවන්නට නොවේ. කය සතප්පවන්නේ කයට සුවයක්, ප්‍රිය මනාප බවක් ලබා දෙන්නට නොවේ. වෙහෙස නිවා ගන්නට පමණි. මේ අනුව කබලිංකාර ආහාරයෙන් වැළකීම යනු කය බලියක් බවට පත්කරවන සියලු ආහාර වලින් වැළකී අත්හැර නිදහස් වීමයි.

## 2. සංචේතනා ආහාර

"සං" යනු එකතු කිරීමයි. සිතුවිලි, අරමුණු දිගේ රවුම් ගසා යම් ආකාරයක ගති ලක්ෂණ වලට පත්වීම සඳහා සංකල්පනා පැවැත්වීම සංචේතනා ආහාර එකතු කිරීම සඳහා කරන ක්‍රියා කිරීමකි. රාග, ද්වේෂ, මෝහ, අලෝභ, අද්වේෂ, අමෝහ යන ගති හයටම පත් වීමට උපකාර වන සිතුවිලි පැවැත්වීම, සංචේතනා ආහාර ලෙසින් පෙන්වා දිය හැකිය. චිත්තසංථානයේ ගබඩා කර ගන්නට එකතු කරන සියලු ආහාර සංචේතනා ආහාර වේ.

## 3. ස්පර්ශ ආහාර

ඇසට ස්පර්ශ වන රූප, කනට ස්පර්ශ වන ශබ්ද, නාසයට ස්පර්ශ වන ගන්ධ, දිවට ස්පර්ශ වන රස, කයට ස්පර්ශ වන පොට්ඨබ්බ, මනසට ස්පර්ශ වන ධම්ම යන හය ආකාර වූ අභ්‍යන්තර, බාහිර ස්පර්ශයන්ගෙන් හට ගන්නා සියලු මනෝ විඤ්ඤාණයන් ස්පර්ශ ආහාර ලෙසින් සැළකිය හැකිය. රස පහස විඳීම සඳහා කරන සියලු දිට්ඨ, සුත, මුත, විඤ්ඤාත යන ක්‍රියාකාරකම් වලින් ස්පර්ශ ආහාර ද උපදවා ගනී. ඒ නිසා "දිට්ඨේ දිට්ඨ මත්තං, සුතේ සුත මත්තං, මුතේ මුත මත්තං, විඤ්ඤාතේ විඤ්ඤාත මත්තං භවිස්සති" යන තත්ත්වයට පත්වී හැම ස්පර්ශයක්ම ස්පර්ශ මාත්‍රයකට පමණක් සීමා කරගෙන, ආහාරයට නොගෙන, අතහැරීම ලෝකය රහ බැලීම අත්හැරීමයි.

## 4. විඤ්ඤාණ ආහාර

ඉහත සඳහන් කළ මුල් තුන් ආකාරයෙන් එකතු කර ගන්නා ආහාරද විඤ්ඤාණය පරිභෝග කරයි. ලෝභ, ද්වේෂ, මෝහ, අලෝභ, අද්වේෂ, අමෝහ ගති ලක්ෂණ හයම නිසා පිරිසිදු චිත්තය වැසී මුවහ වී පවත්වා ගැනීම විඤ්ඤාණය ආහාර ගැනීම යනුවෙන් අදහස් කළ දෙයයි. මේ ගති ලක්ෂණ සහමුළින්ම නැති වුවහොත් විඤ්ඤාණයට පැවැත්මක්ද නැත. විඤ්ඤාණය පවතින්නේ, ජීවත්වන්නේ යට කී ගති ලක්ෂණයන් හය චිත්තසංථානයේ පවතින තාක් කල් පමණි.

අරහත් තත්ත්වයට පත්වීම යනු මේ ආහාර හතර වර්ගයම රස බැලීමෙන් වෙන්වී, රස බැලීම අතහැර දැමීමයි. ඒ අනුව සියලු රස තණ්හාවලින් ද නිදහස් වේ. හැම පෘථග්ජන මිනිසෙකුටම ලෝකයක් අවශ්‍ය වන්නේ මේ ආකාර වූ රස තණ්හාවක් විඤ්ඤාණයෙහි පවතින නිසාමය. අතෘප්තිකර රස තණ්හාවක් පවතින තුරාවට ලෝකයේ ඌණතාවයක්ද ඇත. එකතු කර ගන්නට දෙයක්ද ඇත. රස බලන්නට කැමැත්තක්ද ඇත.

අහතුන්වහන්සේ සියලු රස තණ්හාවලින් මිදී ගිය නිසා රස බලන්නට, එකතු කරගන්නට තරම් වටිනා කිසිවක් ලෝකය තුළින් නොදකී. ඇසින් බලා, කනින් අසා, නාසයෙන් ආග්‍රහණය කර, කටින් රස බලා, කයෙන් ස්පර්ශයක් ලබා, මනසින් අල්ලා ගන්නට තරම් වටිනා කිසිවක් මේ ලෝකය තුළින් නොදකී. ඒ අනුව අලෝක බවට පත්වීම අරහත් තත්ත්වයට පත්වීමත් සමඟ සිදුවෙයි.

* * * * * * * * * * *

## ත්‍රිජ කය

විඥ්ඥාණ ශක්තියෙන් කර්මජ රූප නිපදවා උපතක් ලබන සෑම ප්‍රාණියෙකුටම, භූතයෙකුටම, සත්ත්වයෙකුටම කයවල් තුනක් ඇත. අපට පෙනුණත්, නොපෙණුනත් එවැනි හැම සත්ත්වයෙකුටම කරජ කය (ඍතුජ කය), කර්මජ කය හා චිත්තජ කය යැයි මේ කයෙහි කොටස් තුනක් ම පවතී.

**කරජ කය (ඍතුජ කය)**

වා, පිත්, සෙම් සහිත, මස් ලේ සහිත උපන්දා පටන් වෙනස්කම්වලට, විපරිණාමයට පත්වන කය කරජ කයයි. ආපෝ, තේජෝ, වායෝ, පඨවි, ආකාස, විඥ්ඥාණ යන නාම රූප එකතුවෙන් සකස් කර ගත් අපට විද්‍යමානව දැක ගත හැකි කය, කරජ කයයි. ආහාර අවශ්‍ය වන්නේ ජරාවට මරණයට පත්වන්නේ ඒ කයයි. ඍතු විපර්යාසවලට භාජනය වන්නේ, උපන්දා සිට ලොකු මහත් වී වයසට ගොස් මිය යන්නේ, ඒ කරජ කයයි.

**කර්මජ කය**

කර්මජ කය යනු විඥ්ඥාණය සහිත කරජ කයෙන් නිපදවූ චිත්ත ශක්තීන් ආහාර කොට පවත්වා ගෙන යන කයයි. චිත්තජ රූපවලින් චිත්තජ ශක්තීන්ගෙන් උපදවන සියලුම ශක්තීන් හොඳ- නරක, පින් - පව්, කුසල් - අකුසල් සියල්ල තැන්පත්ව පවතින කර්මජ කෝෂයට කර්මජ කය යැයි නම් කරමු. සත්ත්වයාට මතු උපත ලබන්නට අවශ්‍ය ශක්තිය දෙන්නේ කර්මජ කයෙනි. කර්මජ කෝෂවල ශක්තීන් ගැබ්ව පවතින තුරාවටම, කර්මජ රූපවල විපාක ලබා දෙන නිසා ඒවා ගැබ් කර ගෙන සිටීමට කර්මජ කයක් පවත්වාගෙන යායුතුයි.

උපතක් ලබන්නේ කර්මජ ශක්තීන්ගේ උපකාරයෙන්මය. ඒ උපත ලැබීමට මුල් වූ කර්මජ ශක්තිය ඵල විපාක දී අවසාන වන තුරු කරජ කය පවතින්නේ කර්මජ ශක්තිය බිහි කළ බලවේගය නිසාය. උපතින් ලබා දුන් ශක්තිය පවතිනා තුරු ජීවත් වී ශක්තිය ගෙවී යාමත් සමඟම වැනසී, විනාශ වී යන්නේ කරජ කයයි. කර්මජ කෝෂවල ඵල විපාක දීමට සමත් කර්මජ රූපයන් පවතින තුරු කර්මජ කය පවතී. නිවන් දුටු අරහතුන් වහන්සේටද කරජ කය යටපත් කර ගත්තත්, කර්මජ කය යටපත්කර ගැනීමට ශක්තියක් නැත. කර්මජ රූප ඵල විපාක දී අවසන් වී, ගෙවී ගොස් නිමා කළ පසු නිවන පූර්ණ වීම, පිරිණිවීම සිදුවීමත් සමගම කර්මජ කයද අවසන් වේ. බුදුපියාණන් වහන්සේගේද සියලු කර්ම ශක්තීන් ඵල විපාක දී අවසන් වන තුරු කර්මජ කය පැවතුණු නිසාම බුදු බවට පත්වීමෙන් පසුවද කර්ම දාහතරක් (14) ඵල දුන් බව සඳහන්ය. ඵල දෙන්නට කර්ම ඉතිරිව නැති නම්, අලුතින් කර්මජ ශක්තීන් නොඋපදවයි නම්, කර්මජ කයට ආහාර නැතිවීම නිසා මතු පැවැතීමක් ද නැති වෙයි. අපවත්වීම සිදු වන්නේ එවිටය.

**චිත්තජ කය**

චිත්තජ කය මේ දෙකම නොවේ. නමුත් චිත්තජ කයක් නොතිබුණේ නම් කර්මජ හෝ කරජ කයකට රැඳී සිටීමට එකක් ද නැත. චිත්ත යනු රාග, ද්වේෂ, මෝහවලින් තොර පිරිසිදු පවිත්‍ර තත්ත්වයයි. එවැනි චිත්තය රාග, ද්වේෂ, මෝහ, අලෝභ, අද්වේෂ, අමෝහ යන සංඛාරවලින් කිළිටි කර, අපිරිසිදු කරන්නේ විඥ්ඥාණයයි. ඒ විඥ්ඥාණයට තම

පැවැත්ම සඳහා කරජ කයක් හා කර්මජ කයක් පවත්වා ගැනීම සඳහාම පමණි. සෘතුජ කය හා කර්මජ කය දෙකම දරා සිටින්නේ චිත්තජ කය යටපත් කිරීමෙනි. චිත්තජ කය කවදාවත්, කාටවත් නැති කළ හැකි, අහෝසි කළ හැකි එකක් ද නොවේ. නමුත් කරජ කයෙන් හා කර්මජ කයෙන් නිදහස් වූ චිත්තජ කයට කිසිඳු බලාපොරොත්තුවක්, අල්ලා ගැනීමක් හෝ සම්බන්ධයක් අවශ්‍ය නොවන නිසා නැවත උපතක්, පැවැත්මක්ද අවශ්‍ය නොවේ. හිස් අවකාශයේ අන්තර්දහනය වී අක්‍රිය වී යයි. ඒ නිසා නිවන් දුටු පසුත්, නිවනින් පසුත් චිත්තජ කය අහෝසි නොවී පවතී. නමුත් කිසිම බලයක් උපද වීමක්, එකතු කිරීමක්, අල්ලා ගැනීමක් නැති විට ක්‍රියාත්මක බවින් නිදහස් වී හිස් අහසේ අතුරුදහන් වී යයි. නැවත කිසිදිනක ඒ චිත්තජ කයට කිසි ලෙසකින් ක්‍රියාත්මක තත්ත්වයට පත්විය නොහැකිමය.

චිත්තජ කය යටපත් කර ගෙන කර්මජ කය හා කරජ කය ක්‍රියාත්මක වනතුරු ජීවත්වීම, පැවැත්ම, උපත, මරණය ආදී නම්වලින් අප හඳුන්වන හේතුඵල පරම්පරාවක ක්‍රියාකාරකම් සිදුවෙයි. චිත්තජ රූප නිපදවන්නේ විඤ්ඤාණය සහිත වූ කරජ කයෙනි. කර්මජ කය කරන්නේ විඤ්ඤාණය නිපද වූ චිත්තජ රූප එක් රැස් කර පෙළ ගස්වා, ශක්තියක් ලබා දී මතු උපතකට ඒවා තැන්පත් කර තබා ගැනීම හා අවශ්‍ය විටක ඒවා ඵල විපාක දීමට ශක්ති ගැන්වීම යි. අලුතින් චිත්තජ රූප එකතු කිරීම නැවැත්වීමත්, කර්මජ කෝෂවල තැන්පත් වී ඇති අතීත කර්මජ ශක්තීන් දවා හැර හෝ සළාහැර, කුණු ශුද්ධ කර ගැනීමත්, විමුක්තිය නැති නම් නිවන් දැකීම ලෙස විස්තර කළ චිත්තජ කය නිදහස් කර ගැනීමයි. චිත්තජ කය පූර්ණ ලෙස කරජ කයෙන් හා කර්මජ කයෙන් නිදහස් කර ගත් පසු, එය නිවන් පූර්ණ කර ගැනීමයි. ඒ සඳහා කළ යුතු එකම දෙය ආසවක්ඛය කිරීමයි.

* * * * * * * * * * *

පංචස්කන්ධය හා පංචඋපාදානස්කන්ධය යනු සංකල්ප දෙකකි. මේවායින් ප්‍රකාශ කරන විග්‍රහ කරන දේ එකක්ම නොවේ. මේ දෙක අතර විශාල වෙනසක් ඇති අතර මේ වෙනස්කම් නිවැරදිවම අවබෝධ කර ගැනීම නිවන් අවබෝධකර ගැනීමට බොහෝ සේ උපකාර වෙයි. අද අපි සාමාන්‍ය ව්‍යවහාරයේදීත් බොහෝ ධර්ම දේශකයිනුත් පංචස්කන්ධය යැයි ප්‍රකාශ කරන්නේ ගත - සිත වශයෙන් අපි හඳුන්වන අපේම වතටයි. එයද පංචස්කන්ධයකි. නමුත් බුද්ධ දේශණාවේ විභංගප්‍රකරණයේ විග්‍රහකර ඇති පංචස්කන්ධයෝ ඊට බොහෝ වෙනස්ය.

1. රූප ස්කන්ධය 2. වේදනා ස්කන්ධය 3. සංඥා ස්කන්ධය
4. සංඛාර ස්කන්ධය 5. විඤ්ඤාණ ස්කන්ධය

යනු පංචස්කන්ධයයි. එක් එක් ස්කන්ධය විස්තර කිරීමේදී එය නැවතත් කොටස් 11කට බෙදා ඇත. රූප ස්කන්ධය යනු රූප ගොඩක් යන්නයි. මේ රූප ගොඩට

1. දුර රූප 2. ළඟ රූප 3. සියුම් රූප 4. සණ රූප
5. හීන රූප 6. ප්‍රණීත රූප 7. බාහිර රූප 8. අභ්‍යන්තර රූප
9. අතීත රූප 10. වර්තමාන රූප 11. අනාගත රූප

යනාදී වශයෙන් යම් කෙනෙකුට මෙනෙහි කරගත හැකි රූප සමූහයක්ම පංචස්කන්ධයට අයිති වෙයි.

මේ ආකාරයෙන්ම වේදනා ස්කන්ධයද, සංඥා ස්කන්ධයද, සංඛාර ස්කන්ධයද, විඤ්ඤාණ ස්කන්ධයද එකළොස් ආකාර වේ. මෙලෙස මිනිසෙකුට කෙනෙකුගේ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන පංචස්කන්ධය පනස්පස් ආකාරයකට බෙදා මෙනෙහි කළ හැකිවෙයි. මේ පනස්පස් වූ කොටස්වලට පරිබාහිර වශයෙන් කිසි මිනිසෙකුට, දෙවියෙකුට මේ විශ්වය තුළින් වෙනත් අතිරේක යමක් මෙනෙහි කරගන්නටද නොහැකිය. මේ අනුව බුද්ධ දේශණාවේ එන පංචස්කන්ධය කෙනෙකුට සිතාගත නොහැකි තරම් විශාල වූ මේ මුළු සක්වලම පිළිබඳව කළ විග්‍රහයකි.

පංචඋපාදානස්කන්ධය යනුවෙන් පෙන්වාදෙන දෙවන කොටස මිනිසෙකුට, සත්ත්වයෙකුට, දෙවියෙකුට, උපාදානය කරගත හැකි ඉතාම සුළු කොටසකි. පංචඋපාදානස්කන්ධයේද පෙරකී පරිදිම කොටස් එකොළහ බැගින් බෙදා විග්‍රහ කළ

1. රූප උපාදානස්කන්ධය
2. වේදනා උපාදානස්කන්ධය
3. සංඥා උපාදානස්කන්ධය
4. සංඛාර උපාදානස්කන්ධය
5. විඤ්ඤාණ උපාදානස්කන්ධය

යැයි කොටස් පහක්ම ඇත. මේ අනුව පංචඋපාදානස්කන්ධයද පනස් පස් ආකාරයකින් බෙදා දක්වෙයි.

ඉහත පෙන්වා දුන් රූපස්කන්ධයෙන් යම් කෙනෙකුට උපාදානය කර ගත හැකි වන්නේ ඉතාම සුළු රූප කොටසක් පමණි. දකින, පෙනෙන සිතාගත හැකි රූප අනන්ත අප්‍රමාණය. නමුත් ඉතාම සුළු කොටසක් පමණක් උපාදානය කරගනී. මෙලෙසම වේදනා

ස්කන්ධය, සංඥා ස්කන්ධය, සංඛාර ස්කන්ධය හා විඤ්ඤාණ ස්කන්ධය අතරින්ද උපාදානය කර ගන්නා ඉතාම සුළු කොටසක් පංචඋපාදානස්කන්ධයට අයිති වේ. ඉහත දක් වූ අසීමිත පංචස්කන්ධයන් අතරින් ප්‍රිය රූප, ප්‍රිය වේදනා, ප්‍රිය සංඥා, ප්‍රිය සංඛාර, ප්‍රිය විඤ්ඤාණ පමණක් කෙනෙකු උපාදානය කර ගන්නා අතර අප්‍රිය දේ උපාදානය කර නොගනී. එසේනම් යම් කෙනෙකුට තම සිතින් මෙනෙහි කළ හැකි එකළොස් ආකාර වූ රූප ස්කන්ධය අතරින් ඉතාම සුළු ප්‍රිය රූප කොටසක් පමණක් උපාදානය කරගනී. අනන්ත අප්‍රමාණ වූ අනිකුත් රූප උපාදානය කර නොගනී. ඒ නිසා ප්‍රිය බවක්, සුව සැප බවක්, යහපත් බවක් දකින රූප පමණක් රූප උපාදානස්කන්ධයට ඇතුළත් වෙයි. උපාදානයේ නියත ලක්ෂණය ප්‍රිය බවයි. පංචඋපාදානස්කන්ධයම ප්‍රිය බව නිසා උපාදානය කරගත් කොටසකි.

උපාදානය කරගත් යම් කොටසක ප්‍රිය බව පහව ගියේ නම්, ප්‍රිය බව අප්‍රිය බවට පත්වූයේ නම්, ඒ කොටස ක්‍රමයෙන් උපාදානය කරගත් කොටසෙන් ප්‍රහාණය කර ඉවත් කරයි. අලුතින් යම් දෙයක් කෙරෙහි ප්‍රිය මධුර බවක් ඇතිවූයේ නම්, ඒ කොටසද උපාදානය කරගනී. මේ අනුව උපාදානස්කන්ධයට අයත් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන කොටස් පහම නිතිපතා වෙනස් වන නිරතුරුවම අලුත්වන, වෙනස්වන, ඉවත් කරන ස්වභාවයෙන් යුක්තය. යම් කෙනෙකුට මේ පංචඋපාදානස්කන්ධයේ ඇතිවන නිරන්තර වෙනස්වීම දකගත හැකි වුවොත්, එම පුද්ගලයාට චුති - උපත යන දෙකද නිවැරදිව තේරුම් ගත හැකි වෙයි.

එකම ආකාරයක එකම පංචඋපාදානස්කන්ධයක් කිසිම පුද්ගලයෙකුට දිගටම පවත්වාගෙන යා හැකි නොවේ. රූපස්කන්ධය ගතහොත් සමස්ත රූපස්කන්ධයමත් නිරන්තරවම වෙනස් වන අතර උපාදානය කරගත් රූපස්කන්ධය හෙවත් රූප උපාදානස්කන්ධයද නිරතුරුවම විපරිණාමයට පත්වේ. වැයවේ. විනාශ වේ. පුද්ගලයාගෙන් පුද්ගලයාටද පංචඋපාදානස්කන්ධයද කාලයත් සමඟම හැම මොහොතකම වෙනස් වෙයි. මේ ධර්මතාවය නිවැරදිව යමෙකුට තේරුම් ගත හැකි වූවොත්, චුතුපපාත ඥාණය පහළවීමටද එයම උපකාර වෙයි.

පංචස්කන්ධය යනුවෙන් අප කලින් සඳහන් කළ දේවල් කිසිම මිනිසෙකුට සත්ත්වයෙකුට දුක හෝ සැප හෝ උරුම කර දෙන්නට සමත් එකක් ද නොවේ. පංච උපාදානස්කන්ධයම සියලු ආකාර වූ දුක සැප උරුමකර දෙන්නටද හේතුව වෙයි. මිනිසුන්, සත්ත්වයින් සැප යැයි සළකන්නේ පංචඋපාදානස්කන්ධයේ ප්‍රිය කොටසටයි. ඒ උපාදානය කරගත් යම්කිසි ප්‍රිය කොටසක් අප්‍රිය බවට පත්වී නම් එතැනදී මිනිසුන් එයම දුකක් ලෙසින්ද සළකති. සියලු මිනිසුන්, සත්ත්වයින්, දෙවියන් සැප යැයි සළකන්නේ ප්‍රිය බවක්, මධුර බවක් තමන් තමාගේම සිතෙන්ම ඇති කරගත් මායාවක් මුළාවක් මිස සත්‍යයක්ද නොවේ.

යම්කිසි දෙයක් පිළිබඳව ප්‍රිය මධුර බවක් තම සිත තුළම හටගත්තේ නම් එවැනි රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ තමන් උපාදානය කරගනී. තමා තම සිතෙන්ම අල්ලා උපාදානය කරගත් පංචඋපාදානස්කන්ධය එක දිගටම තමන්ට කැමති සේ

පවත්වන්නට, කැමති ආකාරයෙන් නවත්වා ගන්නට නොහැකිව විපරිණාමයට, වෙනසට භාජනය වූ විට එතැනදී දුක, ශෝක, පරිදේව, දොම්නස්, උපායාස ආදී සියලු ලක්ෂණද පහළ වෙයි. මෙයට මුල් වූයේ "අනිච්ච" ධර්මතාවයයි. කැමති සේ පැවැත්විය නොහැකි බවයි. මේ අනුව දුක යනු යම් ප්‍රිය දෙයක් උපාදානය කර අල්ලා ගැනීමත් සමඟම එහි නියත ලක්ෂණය වූ නිච්ච ධර්මතාවය නිසා නියත වශයෙන්ම උරුම වන ඵලයයි. විපාකයයි. දුක්ඛ අරිය සත්‍යය නිවැරදිව තේරුම් ගන්නට නම් මේ උපාදානස්කන්ධය පිළිබඳව නිවැරදිව තේරුම් ගත යුතුයි. යම් යම් දේ පිළිබඳව, පුද්ගලයින් පිළිබඳව, වස්තූන් පිළිබඳව ප්‍රිය බවක් ඇති වීමත්, එවැනි ප්‍රිය වූ දෙයක් අප්‍රිය බවට පත්වීමත් දුකට හේතුවයි. එවැනි ප්‍රිය දෙයක් උපාදානය කර නොගත්තේ නම් දුකක් හෝ සැපක් ඇතිවන්නේද නැත.

මේ නිසා රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන පංචඋපාදානස්කන්ධයේම යථාස්වභාවය නිවැරදිව තේරුම් ගැනීමත්, අපේම සිතෙහි හටගන්නා ප්‍රිය බව හා අප්‍රිය බව නිවැරදිව තේරුම් ගැනීමත්, චතු අරිය සත්‍යය නිවැරදිව අවබෝධ කර ගන්නටද උපකාරවන මූලධර්මයයි. සැප පතා, සුව පතා, ප්‍රිය මධුර දේ කෙරෙහි ඇලුනේ නම්, එවැනි දේ උපාදානය කරගත්තේ නම්, එය සංසාර ගමනට එකම හේතුවද වෙයි. ලෝකයේ යම් සත්ත්වයෙකු, භූතයෙකු, මිනිසෙකු, දෙවියෙකු උපත ලබන්නේද, දුක් විඳින්නේද, දුක හටගන්නේද ඊට එකම හේතුව, ප්‍රිය මධුර වස්තූන් කෙරෙහි ඇති වූ ඇල්ම, උපාදානය, බැඳීම නම් වූ පංචඋපාදානස්කන්ධය නිසයි. ප්‍රිය, මධුර වස්තූන් ලොව පැවතීම හෝ එවැනි ප්‍රිය මධුර වස්තූන් විනාශ කර තුරන් කිරීම හෝ කාටවත් කවදාකවත් කළ හැකි දෙයක් නොවේ. ඒ ඒ සත්ත්වයා යම් දිනක ප්‍රිය, මධුර වස්තූන් කෙරෙහි ඇති කරගන්නා පංචඋපාදානස්කන්ධය ඉවත් කරන්නට සිතින් තුරන් කරන්නට සමත් වුවහොත් දුකද එයින්ම කෙළවර වෙයි. අරහතුන්වහන්සේ කිසිම ආකාරයකින් පංචඋපාදානස්කන්ධයකට බැඳී නැත. පංචස්කන්ධය අරහතුන් වහන්සේටත් පොදු දෙයකි. ඒ අනුව පංචස්කන්ධය හා පංචඋපාදානස්කන්ධය යන දෙක නිවැරදිවම තේරුම් ගෙන, නිවන් අවබෝධ කරගන්නට උපකාර වන ධර්මයම තේරුම් ගත යුතුය.

දසබිම්බර මාර සෙනඟ වශයෙන් බුද්ධ දේශණාවේ පෙන්වා වදාළේද මේ පංචඋපාදානස්කන්ධයමයි. අභ්‍යන්තර හා බාහිර වශයෙන් රූප උපාදානස්කන්ධය දෙයාකාරය. වේදනා උපාදානස්කන්ධයද දෙයාකාරය. සංඥා, සංඛාර, විඤ්ඤාණ යන පංචඋපාදානස්කන්ධයෝම නිසා දස ආකාරයකින් කෙනෙකු බිමට බර වෙයි. බිම අල්ලාගනී. බිමක පිහිටා සිටියි. ප්‍රතිෂ්ඨාපිත වෙයි. මේ නිසා දසබිම්බර මාර සෙනඟ වන්නේ අභ්‍යන්තර හා බාහිර පංචඋපාදානස්කන්ධ කොටස් දහයයි.

ලෝභ, ද්වේෂ, මෝහ නිසා සිතක තණ්හාව රතිය හා රඟපෑමේ අවශ්‍යතාවයද මතුවෙයි. උපාදානස්කන්ධ නිසාම තණ්හා, රතී, රඟා යන මාරදූතියෝද ක්‍රියාත්මක වෙති. පංචඋපාදානස්කන්ධයක් අල්ලාගෙන සිටිනා තුරාවට යම් කෙනෙකු මාරයාටද ණය ගෙවිය යුතුය. මරුට ණය ගෙවීමෙන් වැළකෙන්නට නම්, අල්ලාගෙන උපාදානය කරගෙන සිටින පංචඋපාදානස්කන්ධයම අතහැර නිදහස් විය යුතුයි.

රූපය මම, රූපය මගේ, රූපය මගේ ආත්මය, වේදනාව මම, වේදනාව මගේ,

වේදනාව මගේ ආත්මය ආදී වශයෙන් සංඥා, සංඛාර හා විඤ්ඤාණද මමත්වයෙන්, මඤ්ඤතිතාවයෙන් අල්ලා ගෙන, පංචස්කන්ධ කොටස් අල්ලාගෙන සිටිනා තුරාවට හේතුඵල පරම්පරාවකටද බැඳෙයි. සම්බන්ධ වෙයි.

මේ පංච උපාදානස්කන්ධයම මම යැයි ගැනීමට, මගේ යැයි ගැනීමට, මගේ ආත්මය යැයි ගැනීමට සුදුසු නොවන බව යම් කෙනෙකු ප්‍රත්‍යක්ෂ කර සත්‍යාවබෝධ කරගත හොත් ඒ පුද්ගලයා පංචඋපාදානස්කන්ධයම උපාදානය කර ගැනීමෙන් වැළකෙයි. එයම අතහැර නිවන් අවබෝධ කර ගනී.

* * * * * * * * * * *

## බුද්ධ භාෂිතයේ විග්‍රහ වන සංදේශණාව

සංඛත වාදය මෙන්ම අසංඛත වාදයත් සිද්ධාර්ථ ගෝතම බෝසතාණන් උපත ලැබූ ජම්බුද්වීපයේ එදා ප්‍රචලිතව පැවති මතවාද දෙකකි. විශ්වයේ හා සත්ත්වයාගේ හට ගැනීම, පැවැත්ම හා විනාශය විග්‍රහ කර පෙන්වා දීමට සංඛත වාදය, අසංඛත වාදය උපයෝගී කරගත් යුගයක, බුදුපියාණන් වහන්සේ ඒ වාද දෙකම බැහැර කර ඒ සඳහා "සං" උපත ලබන "සං" ක්‍රියාත්මකව පවතින හා "සං" විසංඛාර වන ආකාරය විග්‍රහ කර පෙන්වා දීමට පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහය නිවැරදි ලෙසත්, පරිපූර්ණ ලෙසත් ලෝකයාට දේශණා කර වදාළහ.

ඒ ඒ සත්ත්වයාගේ චිත්තසංථානය තුළම බිහිවන කැමැත්තට බැඳීම, ප්‍රියතාවට බැඳීම පටිඉච්ච වීම නිසාම සමුදය ධර්මයන් උපත ලබන බවත් මෙහිදී පැහැදිළිව විග්‍රහ කර පෙන්වා වදාළහ. රූප, ශබ්ද ආදී සංඥා මගින් ලබන දැනුම නිසා ඒවාට ප්‍රිය වූ ලෝක සත්ත්වයා සංඛාර පවත්වන බවත්, සංඛාර පැවැත්වීමෙන් සමුදය බිහිවන බවත්, සමුදය ධර්ම බිහිවීමත් සමගම සංසාර සම්බන්ධතා ඇති වන බවත්, සංසාරයට බැඳීම නිසා "සංකිළිට්ඨයේන" තත්ත්වයෙන් පෘථග්ජන සිතක් ක්‍රියාත්මක වන බවත් පෙන්වා වදාළහ.

ගෝතම බුදුපියාණන්වහන්සේ පමණක් නොව, අතීතයේ ලොව්තුරා බුද්ධත්වයට පත් වූ හැම බුදුපියාණන්වහන්සේ කෙනෙක්ම සොයා දැන දේශණා කර, ලෝකයාට ප්‍රකාශ කළ ධර්මය පටිච්චසමුප්පාද ධර්මයයි. මේ උතුම් පටිච්චසමුප්පාද යන වචන දෙක ඇතුළතම "සමුදය" යන  වචනයත් "පටි ඉච්ච" යන වචනයත් ගැබ් වී ඇත. "සමුදය" යනු "සං උත්පාද" වන ආකාරයයි. "සං උදය" වන ආකාරයයි. සමහර කෙනෙක් මෙය "සම+ උත්පාද" ලෙස විග්‍රහ කරන නමුත්, මෙහි අඩංගු වන්නේ "සං+උත්පාද" යන තේරුමයි. "සං" යන පදයේ ධර්ම අර්ථය තේරුම් ගැනීමත් සමගම මේ ගැටළුවද නිරාකරණය කරගත හැකියි. "සමුදය" යනු "සං" උපත බව දැන ගත හැකියි.

මේ "සං උපත" ලබන්නට හේතුවන කරුණු තේරුම් ගත්තේ නැතිනම්, තම තමන්

තුළම තමන්ම "සං" උපදවා ගන්නා ආකාරය තේරුම් ගත්තේ නැතිනම්, තමන් තුළම "සං" ක්‍රියාත්මක වන ආකාරය තේරුම් ගත්තේ නැතිනම්, තමන්ම එකතු කර ගන්නා, සමුදය කර ගන්නා, "සං" තැම්පත් කරන, ගබඩා කරන ස්ථානය දැන ගත්තේ නැතිනම්, මේ "සං" යන එකතු කිරීම පිළිබඳ තේරුම් ගත නොහැකියි.

"සංදේශණාව" ගෞතම බුදුපියාණන් එදා විවිධ අවස්ථාවන්වලදී දේශණා කර වදාළ උතුම් බුද්ධ දේශණාවකි. චුල්ලහත්ථිපදෝපම සූත්‍රය මුළුමණින්ම සංදේශණාවකි. මජ්ඣිම නිකායේ එන රථ විනීත සූත්‍රය, රට්ඨපාල සූත්‍රය, ධම්මචේතීය සූත්‍රය, සේල සූත්‍රය හා සංයුක්ත නිකායේ එන විශාඛ සූත්‍රයත් "සං" දේශණාව ඉතාමත් පැහැදිළිව දේශණාකර වදාළ තැන් ලෙසින් පෙන්වා දිය හැකියි.

චුල්ලහත්ථිපදෝපම සූත්‍රයේ සඳහන් "සංදස්සේති, සමාදපේති, සමුත්තේජේති, සංපහංසේති" යන ඥාණ පද හතර, ඇතෙකුගේ පාද හතරට උපමා කර, ඇතාගේ කඳ, ධර්මස්කන්ධයට සමාන කර උපමාවක් ගෙන පෙන්වා වදාරා ඇත. ඇතාගේ විශාල කඳක බර, ශරීර පාද හතරකින් දරන්නා සේ මෙම "සං" පද හතරින්, ඥාණ පද හතරෙන් මුළු ධර්මස්කන්ධයම දරා සිටින ආකාරය විග්‍රහ කර පෙන්වා දිය හැකි බව උපමාවකින් චුල්ලහත්ථිපදෝපම සූත්‍රය තුළින් පෙන්වා දී ඇත.

"සංදස්සේති" පළමු වැනි ඥාණ පදයයි. "සං" යන එකතු කිරීම, රැස් කිරීම, උපාදානය කර ගැනීම විග්‍රහ කර, විස්තර කර පැහැදිළි කිරීම මෙහිදී දේශණා කර තිබේ.

"සමාදපේති" යනු එකතු කරගත් "සං" වලින් මිදී නිදහස් වී, සම්මා තත්ත්වයට පත්වන ක්‍රියා මාර්ගය පැහැදිළි කර දී පෙන්වා දීමයි.

"සමුත්තේජේති" යනු එකතු කිරීමේ ක්‍රියාවට මුල් වූ පටිච්ච වීම සහමුළින් උදුරා දමා, "සං" මුල ගළවා දැමුවා යන ක්‍රියාවලිය විස්තර කර දීමයි. එකතු කළ සියලු දේ අස්කර, නිදහස් වුණා යන අදහසයි.

"සංපහංසේති" යනුවෙන් විස්තර වන්නේ, "සං" ප්‍රහාණය කර "සං" වලින් සදහටම මිදී නිදහස් වන්නට මඟ පෙන්නා දී, නිවන් සුවයට නිවැරදි මඟ පෙන්නා දුන්නා යන තේරුමයි.

චුල්ලහත්ථිපදෝපම සූත්‍රයේ එන පරිදි පිලෝතිකා පරිබ්‍රාජකයා මේ පද හතර කෙටියෙන් ප්‍රකාශ කළ විට ජානුස්සෝනි බ්‍රාහ්මණයා මේ පද හතරෙන් විස්තර වන "සංදේශණාව" විස්තර වශයෙන් ගෞතම බුදුපියාණන්ගෙන් ම අසා දැන ගත්හ. මේ අනුව මුළු චුල්ලහත්ථිපදෝපම සූත්‍රයේම එන සීල, සමාධි, ප්‍රඥා යන අංගයන්ද සම්පූර්ණ කරගෙන "සංපහංසේති" යන තත්ත්වයට පත්වන්නට මාර්ගය අසා දැන ගත් බව ඉතාම පැහැදිළිව විස්තර වේ.

මජ්ඣිම නිකායේත් විශේෂයෙන්ම සංයුක්ත නිකායේත්, අංගුත්තර නිකායේත්

බොහෝමයක් සූත්‍ර ධර්මවලත් මේ "සංදේශණාව" විවිධ ආකාරයෙන් විග්‍රහ කර ඇත. නිවන් දකින බුද්ධ ධර්මය තේරුම් ගැනීමට නම් සංදේශණාවක් අසා "සං" තේරුම් ගත යුතුයි. බුද්ධ භාෂිතයේ, ත්‍රිපිටක ධර්මයේ "තේසං" වාගේ තැන්වලදී නිතරම "සං" භාවිතා කර තියෙන්නෙ තවත් වචන සමඟ සන්ධි වීමෙනි. ත්‍රිපිටකයේ එන හැම ධර්ම කාණ්ඩයකම "සං" යන පදය යොදා ඇත. ප්‍රධාන වශයෙන් "සං" යොදා ගෙන ඇති ආකාරය උදාහරණ කිහිපයක් ගෙන පෙන්වා දිය හැකියි.

| | | |
|---|---|---|
| සංසාර | ඃ | එකතු කරගත් දෙයෙහි, රැස් කරගත් දෙයෙහි සාරවත් බව දැකීම |
| සංඛාර | ඃ | එකතු කරන්නට කරනු ලබන ක්‍රියාකාරකම් |
| වචී සංඛාර | ඃ | වචන භාවිතා කර යමක් එකතු කරන්නට කරන ක්‍රියාව |
| කාය සංඛාර | ඃ | කය පාවිච්චි කර යමක් එකතු කරන්නට කරන ක්‍රියාව |
| මනෝ සංඛාර | ඃ | මනස භාවිතා කර යමක් එකතු කරන්නට, රැස් කර ගන්නට කරන සිතිවිලි පැවැත්වීම |
| සංඛත | ඃ | වචී සංඛාර, කාය සංඛාර, මනෝ සංඛාර කර එකතු කර හදා ගත්ත දේ, හැදුණු දේ සංඛත යනුවෙන් හඳුන්වයි. මේ ලෝකයේ පවතින සියලුම දේ සංඛතමයි. සංඛාරයක් කර හදාගත් සංඛතයන්ම වේ. |
| සංතෝස | ඃ | එකතු කර ගත්ත දෙයක් නිසා ඉන්ද්‍රියයන් පිනවීමෙන් ලබන සතුට, ප්‍රීතිය සංතෝසයයි. එකතු කර ගත්ත දෙයක් නැතිනම් ලෞකිකත්වය තුළ සතුටක් ලැබිය නොහැකියි. |
| සංතාප | ඃ | එකතු කරගත් දෙයක් බරක් වීම නිසා කායික හෝ මානසික වශයෙන් ලබන තැවීම, තාපනය සංතාපයයි. |
| සංවේග | ඃ | එකතු කරගත් යමක් නිසා කායික හෝ මානසික වශයෙන් ඇති වන දැවීම, තැවීම නිසා ඇති වන ධාවනකාරී වේගය, සිතේ වේගයක් ඇති වෙන්නෙ එකතු කර ගත් දේ නිසයි. |
| සම්බන්ධ | ඃ | එකතු කරගත්, රැස්කර ගත්, උපාදානය කරගත් පුද්ගලයින්ට, ද්‍රව්‍යවලට, වස්තූන්වලට, තැන්වලට, ධර්මතාවලට, අන්ධ ලෙසින් බැඳීම. (සං+බ+අන්ධ) |
| සම්බාධක | ඃ | එකතු කර සකස් කළ බාධක, ගොනු කළ බාධක. |
| සන්නිවේදන | ඃ | යමක් එකතු කරන්නට කරන දැන්වීම - නිවේදනය, වෙළඳ සන්නිවේදනය යනු ලාභ එකතු කරන්නට කරන දැන්වීමකි. |
| සංඨානය | ඃ | එකතුකරගත් ගති, "සං" තැන්පත් කරන ස්ථානය, චිත්තසංඨානය. |
| සම්මත (සං+මත) | ඃ | ඒ ඒ අය තම තමාගේ අදහස් එකතු කර ඉදිරිපත් කරන ලද මත, මත එකතුවක් සම්මත වේ. |
| සංකර | ඃ | පිටින් එකතු කරගත් සිරිත් විරිත් සංකර ගති ලෙස සංකර සිරිත් විරිත් ලෙස හඳුන්වයි. |
| සංසිඳීම | ඃ | එකතු කරගත් දේ අතර ඇති අයහපත් දේ සිඳ හැර බරෙන් මිදී නිදහස් වීම - පස්සදිය |
| සංවර | ඃ | එකතු කරගන්නා කෙළෙස් සහිත දේ, එකතු කිරීමෙන් වැළකී සිටීම, එකතු කිරීම වාරණය කිරීම, එකතු කිරීමෙන් වෙන් වී සිටීම සංවර වීමයි. |

සංඛ්‍යා : සිංහල හා පාලි භාෂාවන් දෙකේම ඉලක්කම් එකතු කිරීම හා අඩු කිරීම සඳහා යොදා ගත් පදය, "සං" යනු එකතු කිරීම, "ඛය" යනු අඩු කිරීමයි.

සංකල්පනා : කාලය පීරා "සං" එකතු කර ගැනීම. පනාවෙන් කරන්නේ පීරීමකි. අතීත කාල පරාසය පීරා ගති ලක්ෂණ එකතු කිරීම සංකල්පනා වේ.

මේ ආකාරයට සිංහල භාෂාවේත්, මාගධී භාෂාවේත් බොහෝ තැන්වල සං, සම්, සන්, ස, සමා, සමු ආදී වශයෙන් විවිධ ආකාරයෙන් පද අර්ථ ගැන්වීමට "සං" යන ශබ්ද සංඥාව යොදාගෙන ඇත. මෙතැනදී අප අමතක නොකළ යුතු ඉතාමත් වැදගත් කාරණයක් නම් මාගධී භාෂාව යනු ලිඛිත භාෂාවක් නොවන බවයි. මුළු බුද්ධ භාෂිතයම කටපාඩම් කරගෙන, වන පොත් කරගෙන භාවිතයට ගත් වසර හාරසිය ගණනක්ම මුඛ පරම්පරාවෙන් පමණක්ම ගෙනා ශබ්ද සංඥා සමූහයකි. මේ ශබ්ද සංඥා පසු කාලයක අකුරෙන් ලියන අවස්ථාවේ, ඒ අකුරු ලියූ අය "සං" යන පදය විවිධ අකුරු කොටස් යොදා ලියා තැබූහ. ඒ අනුව මේ අකුරුවල විවිධත්වයක් දකින්නට ලැබේ.

එදා බුදුපියාණන්වහන්සේ "සං" යන පදයෙන් අර්ථ ගැන්වූයේ, එකතු කිරීම, එකතු කරගත්තා, රැස් කිරීම, රැස්කර ගත්තා, උපාදානය කිරීම, උපාදානය කර ගත්තා, අල්ලා බඳා ගත්තා යන අර්ථයෙනුයි. මේ සියලු පදවල "ගන්නවා" "ගත්තා" යන තේරුමක් ඇත. ඒ ගත්ත දේ "ගති" ලෙසින් හඳුන්වයි. අප ගත ලෙසින් නම් කරන්නේත් එකතු කර ගත් දෙයක්මයි. ඒ වාගේ ම අස් කිරීම, හිස් කිරීම යන අර්ථයෙනුත් "සං" භාවිත කර තිබේ. (විසංඛාර)

හැම පෘථග්ජන පුද්ගලයෙක්ම, සත්ත්වයෙක්ම, හැම අමනුස්සයෙක්ම, හැම දෙවියෙක්ම නිරතුරුවම කටයුතු කරන්නේ, ජීවත් වෙන්නේ මොනවා හෝ යමක් එකතු කර ගැනීමටයි. විඤ්ඤාණයෙන්ම උපත ලබා විඤ්ඤාණ ශක්තියක් පවත්වා ගෙන යන්නට නම් හැම ප්‍රාණියෙක්ම ආහාර රැස්කර ගත යුතුමයි. කබලිංකාර ආහාර, සංචේතනා ආහාර, ස්පර්ශ ආහාර, විඤ්ඤාණ ආහාර යන ආහාර කොටස් හතරම එකතු කර ගැනීමට, රැස්කර ගැනීමට, චිත්තසංථානයේ තැන්පත් කර ගැනීමට කරන, කියන, හිතන සියලුම ක්‍රියා සංඛාර ලෙසින් පොදු නමකින් බුද්ධ භාෂිතයේ පෙන්වා දී ඇත.

සංඛාර නොකර, යම් යම් දේ එකතු කර ගැනීමට ක්‍රියා නොකර කිසිම පෘථග්ජන සත්ත්වයෙකුට, පුද්ගලයෙකුට මේ පැවැත්ම ගෙන යාමට හැකියාවක් නැත්තේමය. උපන් හැම සත්ත්වයෙක්ම, පුද්ගලයෙක්ම, ප්‍රාණියෙක්ම තම මුළු ජීවිත කාලය පුරාම කරන්නේ මේ එකතු කිරීමේ, එකතු කර රැස්කර ගැනීමේ ක්‍රියාවයි. එසේ එකතු කරගත්, රැස්කර ගත් දෙයක් මිස වෙනත් කිසිම දෙයක් ආහාරයට ගැනීමටත් නොහැකිය. මේ ජීවිතයට පෙර අතීත ජීවිතවලදීත් කළේ මේ එකතු කිරීමේ ක්‍රියාවලියමයි. ඉදිරියේදී යම් මතු උපතක් ලැබුවොත් එදාට කරන්නේත් මේ එකතු කිරීමේ, සංඛත සකස් කිරීමේ ක්‍රියාවලියමයි. විඤ්ඤාණය, මේ එකතු කිරීමේ ක්‍රියාවලියේ මැදිහත්කරුවායි. විඤ්ඤාණයට අවශ්‍ය වන්නේ දිගින් දිගටම මේ සංසාර ගමන සුරක්ෂිතව පවත්වාගෙන යෑමයි. ඒ සඳහා කළ හැකි හැම එකතු කිරීමක්ම, රැස් කිරීමක්ම, උපාදානය කිරීමක්ම කිරීමට නිතරම

විඤ්ඤාණය වග බලා ගනී. ධර්මය - අධර්මය, කුසලය - අකුසලය, පින්-පව් වැනි දේවල වෙනසක් දැක ගැනීමට විඤ්ඤාණයට නොහැකියි. ඒ ශක්තිය පවතින්නේ මනසට පමණයි.

සම්මතයේ, ලෞකිකත්වය තුළ පවතින හොඳ නරක දෙකම විඤ්ඤාණයට ආහාර වේ. ඒ සියල්ලම සාරයි ලෙස දකින්නේ, දැනගන්නේ විඤ්ඤාණ ශක්තියෙනි. ඒ නිසා "සං" බිහි කිරීමේ හැකියාව ඇත්තේ විඤ්ඤාණයටයි. "සං" වටින්නේ විඤ්ඤාණයටයි. "සංඛාර පච්චයා විඤ්ඤාණං, විඤ්ඤාණ හේතු සංඛාරං" කීවේ ඒ නිසයි. මේ අනුව එකතු කර ගත්ත, රැස්කර ගත්ත, අල්ලා බදාගෙන උපාදානය කර ගත්ත දේවල සාරයක්, වටිනාකමක් දැකීම, සංසාර ක්‍රියාවලියයි. මතු මතුත්, තව තවත් එකතු කිරීමට, රැස් කිරීමට, අල්ලා ගැනීමට යන මේ ගමන, සංසාර ගමනයි.

මෙසේ තම තමන් එකතු කර, රැස්කර, උපාදානය කරගත් දේ සාරයි යනුවෙන් දකිනා තාක් කල්ම, කෙනෙක් මේ සංසාර ගමනේ යෙදේ. මේ ආකාරයට එකතු කර, රැස්කර, උපාදානය කර ගන්නා දේ පිළිබඳව සත්‍යය, ඇත්ත ඇති සැටියෙන් දකින්නට හැකි ශක්තියක් කෙනෙකුට ලැබුණොත්, අසා දැනගත්තොත්, මෙනෙහි කර දැක ගත්තොත්, මේ එකතු කරන දේ, රැස් කර ගන්නා දේ, උපාදානය කර ගන්නා දේ පිළිබඳව ඇත්ත ඇති සැටියෙන් දැක ගනී. එය චතු අරිය සත්‍යයන් අවබෝධ වීමයි.

මුළු සත්ත්ව, පුද්ගල සංහතියේම දුකට මුල්වන එකම හේතුව මේ එකතු කරගත්, උපාදානය කරගත්, පංචඋපාදානස්කන්ධයම මිස වෙන කිසිම දෙයක් නොවේ. "සංඛිත්තේන පංචඋපාදානස්කන්ධා දුක්ඛා" ලෙස දුක්ඛ අරිය සත්‍යය පැහැදිළි කෙළේ මේ සඳහායි.

හැම කෙනෙක්ම කරන, කියන කර්මවලට අනුරූපවම, ඒ අයට ධර්ම නියාමයෙන් උරුම වන ඵලයක්, විපාකයක් ද අයිති වේ. එක එක සත්ත්වයින්ට, පුද්ගලයින්ට එක එක ආකාරයේ ශරීර කූඩු මහා බ්‍රහ්මයා මවා දුන්නා නොවේ. බලයෙන් පැටවූ දේවල්ද නොවේ. මොන ආකාරයේ ශරීර කූඩුවක් ලැබුණත් විඤ්ඤාණය ඒක සතුටින් ම භාර ගනී. සංසාර ගමන යන්නට උපකාරී වන යම් යම් දේ, පංචස්කන්ධය එකතු කර උපාදානය කරගන්නට හැකි නම් විඤ්ඤාණයට මේ එකතු කිරීම ඉතාමත් වටී.

මේ අනුව "සං" යන පදයේ අර්ථය හොඳින් අසා තේරුම් නොගත්තොත්, සංසාර ගති, සංසාර බව යනු කුමක්ද? සංසාර පුරුදු යනු මොනවාද? යනුවෙන් තේරුම් ගැනීමටත් නොහැකියි. හැම පුද්ගලයෙක්ම දැන හෝ නොදැන හෝ තම තමන් ම අතීතයේ එකතු කරගත්, රැස්කර ගත්, උපාදානය කරගත්, සංසාර ගති, සංසාර පුරුදු හේතුඵල පරම්පරාවක් ලෙස දිගින් දිගටම ක්‍රියාත්මක කරමින් තමන් සංසාර ගමනක් යන බව නිවැරදිවම තේරුම් ගත යුතුයි. අතීතයේ එකතු කර ගත් දෙයක් නැතිනම්, වර්තමානයේ කිසිවක් එකතු කරන්නේ නැතිනම්, අනාගතය සඳහා කිසිවක්ම එකතු නොකරන්නේ නම් සංසාර ගමනකුත් නැත.

උපන් හැම කෙනෙක්ම නිරතුරවම නොයෙකුත් ආකාරයට සංඥාවන් ලබාගනී. සංඥාවක් නොලැබුණොත් සංඛාරයක් ක්‍රියාත්මක කළ නොහැකියි. "සං+ඥා" යනු දැනීමක් එකතු කිරීමයි. "ඥා" යනු දැනීමයි. "සං" යනු එකතු කිරීමයි. අප අප ගැනම සළකා බැලුවොත්, ඇසෙන් රූප සංඥා ලබා ගනී. රූප දකිනවාය යනු රූප සංඥාවකි. කනෙන් ශබ්ද සංඥා ලබා ගනී. ඇහෙනවා යනු ශබ්ද සංඥාවකි. නාසයෙන් ගඳ සුවඳ සංඥා ලබා ගනී. දිවෙන් රස සංඥා ලබා ගනී. කයට සුව පහසු, සීතල, උෂ්ණ වැනි සංඥා ලැබේ. මනසට අතීතයේ එකතු කරගත් මතක සටහන් ආශ්‍රයෙන් ම මනෝ සංඥා ලැබේ. මේ ආකාරයට ඉන්ද්‍රියයන් හයටම නිරතුරුවම සංඥා ලැබුණත්, මේ හැම සංඥාවකටම කෙනෙක් නොබැඳේ. සංඥාවකින් ලබන, එකතු කර ගන්නා දැනුම නිසා විඤ්ඤාණය මත් කරවයි නම් ප්‍රිය, මනාප, ඉෂ්ටකාන්ත, මධුර සංඥාවක් නම් එතැන කැමැත්තෙන්ම සිත බැඳේ. මේ බැඳීමට, ඇලීමට හේතුව ප්‍රිය ගති ලක්ෂණයයි. ප්‍රිය රූපයක් නිසා ඇස වින්දනයකින් මත්වේ. රාගය, ඡන්දරාගය, කාමච්ඡංදය යනු මේ මත් කිරීමේ ලක්ෂණයයි. මත් වූ සිත ප්‍රිය වස්තුවෙහි ඇලේ. "පටි ඉච්ච" වීම යනු මේ ගති ලක්ෂණයයි.

ඉන්ද්‍රියයන් හයෙන්ම යම් ප්‍රිය, මධුර වස්තුවක් දැකීමෙන්, රස විඳීමෙන්, සිතීමෙන් මොහොතකින් පසු ඉන්ද්‍රියයන් හයම ආයතන බවටත් පරිවර්තනය වේ. ආයතන ක්‍රියාත්මක වීමත් සමගම එකතු කිරීමට කරන ක්‍රියාවන් කිරීම සංඛාර කිරීමයි. පටිච්චසමුප්පාද ධර්මය විග්‍රහ කර බුදුපියාණන්වහන්සේ පෙන්වා වදාළේ ඇස, කන, නාසය, දිව, කය, මනස යන ඉන්ද්‍රියයන් හයත්, රූප, ශබ්ද, ගඳ, සුවඳ, රස, සුව පහස, මතක සටහන් යන බාහිර ලෝකයත් සමඟ ස්පර්ශ වී සමුදය ධර්මය උපදවාගෙන සංසාරයට බැඳෙන, "බව" තත්ත්වයට පත්වන ආකාරය පෙන්වා දීමයි. "පටි ඉච්ච" යනු කැමැත්තට, ප්‍රියතාවට බැඳීමයි.

"සං" උත්පාද වීමත් සමගම ගතියක් ද බිහිවේ. ගතියකට බැඳේ. රාග ගතිය, ද්වේෂ ගතිය, මෝහ ගතිය, නපුරු ගතිය, ලෝභ ගතිය, මසුරු ගතිය යමෙකු තුළ පහළ වන්නේ අයහපත් ගති එකතු කිරීමේ ප්‍රතිඵලයක් ලෙසයි. විඤ්ඤාණය ඒවා එකතු කළත්, විඤ්ඤාණයට ඒවා ගබඩා කර තබා ගත නොහැකියි. විඤ්ඤාණය ඒවා එකතු කර, චිත්තසංථානයේ ගබඩා කිරීමට භාර දීම සිදු කරයි.

චිත්තසංථානය යනු "සං" තැන්පත් කර ගබඩා කර ගන්නා ස්ථානයයි. මේ චිත්තසංථානයේ ගබඩා කළ ගතියක්, ගති බවට පත්වේ. අපි ඒ ගති ලක්ෂණයම "බව" ලෙස හඳුන්වමු. රාග ගතිය - රාග බව, ද්වේෂ ගතිය - ද්වේෂ බව, නපුරු ගතිය - නපුරු බව, මෝහ ගතිය - මෝඩ බව, උද්ධච්ච ගතිය - උද්ධච්ච බව ආදී වශයෙන් අපි මේ ගති ලක්ෂණවලටම, භව යනුවෙන් නම් කරමු. පටිච්චසමුප්පාද ධර්මය විග්‍රහයේදී "උපාදාන පච්චයා භවෝ" යනුවෙන් විස්තර කළේ මේ ගති ලක්ෂණ එකතු කිරීමයි. (එකතු කර ගත් දේ ගති ලක්ෂණයි) චිත්තසංථානයේ ගබඩා කර ගත් නිසා, ඒවා "භව" ලෙස හඳුන්වයි. මේ "භව" යනු කර්ම බීජයි, උත්පත්ති බීජයි. මේ "භව" යන ගති ලක්ෂණ චිත්තසංථානයේ ගබඩා වී, මනෝකායට සම්බන්ධ වී පවතින නිසා මේ ගතිවලටම ධර්ම විග්‍රහයේ කර්ම බීජ ලෙසද හඳුන්වයි. කර්ම බීජ ගබඩාව කර්මජ කෝෂයයි.

පුද්ගලයෙක්, සත්ත්වයෙක් විඤ්ඤාණ ශක්තියෙන් එකතු කරගත් කර්ම බීජ තම

කර්මජ කයේම ගබඩාකර ගැනීමත් සමඟම ඒ ගති සංසාර ගති බවට පත්වේ. ඒ ආකාරයෙන් එකතු කර, ගබඩා කරගත් (භව) ගති ලක්ෂණ සමාධියෙන්, විපස්සනාවෙන්, ප්‍රඥාවෙන් නිරෝධ කළේ නැතිනම්, ඒ ගති ලක්ෂණ සංසාරය පුරාවට ම දිගින් දිගටම ගෙන යයි. රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන පංචස්කන්ධයම කෙනෙකුගේ මරණයේදී විනාශ වී තමන්ට අහිමි වී ගියත්, මේ කර්මජ කෝෂයේ තැන්පත් කර ගත් කර්ම බීජ, "භව" නැතිනම් ගති ලක්ෂණ සම්මත මරණයත් සමඟ විනාශ කළ නොහැකියි. විනාශ වීමකුත් සිදු නොවේ. ඒ ගති ඵලවිපාක විඳ හෝ ගෙවා දැමිය යුතුයි. නැතිනම් සමාධියෙන්, සංසිඳවීමෙන්, සම්මා අංග සම්පූර්ණ කිරීමෙන්ම ඛය (කපා දමා) කර අවසන් කිරීමට සිදුවේ. බුදුපියාණන් පෙන්වා වදාළ කුසල මූල පටිච්චසමුප්පාද ධර්ම මාර්ගය භාවිතයෙන්ම හැර වෙන කිසිම ආකාරයකින් මේ භව නිරෝධ කර, ගති සහමුලින්ම ඉවත්කර, සමුත්තේජේති යන සම්මා තත්ත්වයට පත් විය නොහැකියි. මේ සඳහා යථාභූත ඥාණ දර්ශනය අත්‍යාවශ්‍යයි. විපස්සනා භාවනාවම අවශ්‍යයි.

මෙතැනදී පැහැදිලි කර දිය යුතු වැදගත්ම දේ නම්, විඤ්ඤාණය අවිද්‍යාවෙන්, තණ්හාවෙන් එකතු කරන්නේම සංසාර ගමනට උපකාර වන රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණයන්මයි. මේ අවිද්‍යාවෙන් එකතු කරන රාග, ද්වේෂ, මෝහ ගති හා භව එකතු කිරීමට අවිද්‍යා මූල සංඛාර පවත්වයි. අවිද්‍යා මූලයෙන් එකතු කරන ගති හා භව නිසා කෙනෙකුගේ ලේ ධාතුව, ජීවිතේන්ද්‍රිය කිළිටි වේ. කළු වේ. අඳුරු වේ. මේ කෙලෙස් නිසා ලේ ධාතුව කිළිටි වී, මනස වැසී, මෝහය යන ගති ලක්ෂණය තමා තුළම ඇති කරයි. තම මනස වසා මෝහය මතු කරන, ලේ ධාතුව කිළිටි කරන, සියලුම ගති ලක්ෂණයන් කුණු ගති ලක්ෂණ ලෙසින් බුද්ධ භාෂිතයේදී පෙන්වා වදාළහ. කෙළෙස් ගති යනු මේවායි.

කුණු, කිළිටි, කෙළෙස් ගති අස්කර, චිත්තසංථානය පිරිසිදු කරගන්නටත් සරළ ක්‍රම වේදයක් බුදුපියාණන්වහන්සේම පෙන්වා දුන්හ. මේ නිවැරදි ක්‍රමය විභංගප්‍රකරණයේ පච්චයා විභංගයේහි ඉදිරිපත් කරන ලද කුසල මූල නිද්දේසයයි. මේ කුසල මූල නිද්දේසය, කුසල මූල පටිච්චසමුප්පාද පරියාය ලෙසින් අපි අද හඳුන්වා දෙමු. මේ ක්‍රමවේදය, කුසල මූල නිද්දේසය, අද බුද්ධාගමේ පරිහරණය කරන දෙයක් නොවේ. එය ආගමකට ගැළපෙන සුදුසු දෙයක්ද නොවේ. මේ ක්‍රමවේදය, කුසල මූල පටිච්චසමුප්පාද පරියාය ඇත්තේ උතුම් පරම පවිත්‍ර බුද්ධ ධර්මයෙහිම පමණි. එයම පූර්ණ නිවන් මාර්ගයයි.

කුසලමූල පටිච්චසමුප්පාද පරියායෙහිදීත් සංඛාර පැවැත්වීමක් කළ යුතුයි. අවිද්‍යාමූල පටිච්චසමුප්පාද පරියායෙහිදී විග්‍රහ කළ සංඛාර පැවැත්වීම මඟින් කුණු කෙළෙස්, කිළිටි දේ, රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණ එකතු කරගන්නා ආකාරය විග්‍රහ කළත් මෙතැනදී කරන කුසලමූල සංඛාර මඟින් කරන්නේ ඊට හාත්පසින්ම වෙනස් ආකාරයක සංඛාර පැවැත්වීමකි. මෙතැනදී සිදුවන්නේ මෙතෙක් අතීත සංසාරයේදී කවදා හෝ සාරයි යනුවෙන් එකතු කර, ගබඩා කරගත් සියලු ගති (කුණු) සොළවා, මතු කර, අස්කර, ඉවත්කර දැමීමට උපකාර වන සංඛාර පැවැත්වීමයි. මේ නිසාම කුසලස්ස උපසම්පදා යන පදය මෙහි දී භාවිතා වේ. මේ සංඛාර කුසලමූල සංඛාර ලෙසින් බුද්ධ භාෂිතයේ හඳුන්වයි. කුසලමූල සංඛාර පැවැත්වීම සඳහා යථාභූත ඥාණ දර්ශනයත්, සතියෙහි පිහිටා ක්‍රියා කිරීමේ ශක්තියත් තමා තුළම තමාම මතු කර ගත යුතුයි. ඇති කර

ගත යුතුයි. මේ ශක්තිය, සති සම්පජානකාරී ශක්තිය ලෙසින් බුද්ධ භාෂිතයේ පෙන්වා දී ඇත.

"සං" පිළිබඳව ලැබූ දැනුමත්, පටිච්චසමුප්පාද ධර්මාවබෝධයත් එනම් "සං" උපත ලබන උල්පතත් දක්කොත්, තම චිත්තසංථානයේම මුල් බැස ගෙන පවතින "සං" දක "ධම්මෝ සංදිට්ඨිකෝ" යන තත්ත්වයට පත් වීමෙන් සතිසම්පජානකාරී විය හැකිය. "ධම්මෝ සංදිට්ඨිකෝ" යනු පටිච්චසමුප්පාද ධර්මයට අනුවම තමා තුළින් සමුදය බිහි වන ආකාරය තමන්ම දැක ගැනීමයි.

"ධම්මෝ සංදිට්ඨිකෝ" තත්ත්වයට පත්වූ මෙම පුද්ගලයාට "සම්මා දිට්ඨියට" පත්වන්නටත් ශක්තිය, හැකියාව ලැබේ. මෙතැන සම්මා දිට්ඨිය යනු ලෞකික වශයෙන් හොඳ, යහපත් නිවැරදි දැක්මක් ලබා ගැනීම පමණක්ම නොවේ ."සං" වලින් මිදී සහමුළින්ම "සං" උපත ලබන මුල් උදුරා දමා නිදහස් වීමට මාර්ගය දැකීම, සම්මා දිට්ඨිය යන්නෙහි ලෝකෝත්තර අර්ථයයි. අරිය අෂ්ටාංගික මාර්ගයේ මුල්ම හා පළමුවැනිම අංගය වන සම්මා දිට්ඨිය පිළිබඳව දැනුමක් තේරුමක් පවා ලබා ගත හැකි වන්නේ, සංදේශණාවක් අසා "සමාදපේති" යන්න පිළිබඳව තේරුම් ගත් කෙනෙකුට පමණි.

ලෞකික සම්මා දිට්ඨියද බුද්ධාගමෙහි භාවිතයෙහි පවතී. මිථ්‍යා අෂ්ටාංගික මාර්ගයෙන් ඉවත් වී, ලෞකික සම්මා අෂ්ටාංගික මාර්ගයට පත්වීම ඒ ලෞකික සම්මා අෂ්ටාංගික මාර්ගයයි. එහිදී සිදු වන්නේ "සං" වලින් මිදී යහපත් ලෞකික මාර්ගයට පත් වීමයි. "සං" උපත ලබන, සමුදය බිහිවන ධර්ම පරියාය තේරුම් නොගත් කෙනෙකුට, ලෝකෝත්තර සම්මා අංගයන් තේරුම් ගැනීමක් කළ නොහැකියි. කෙනෙක් උත්පත්තියේ පටන් මැරෙන මොහොත දක්වාම, ජීවත්වන මුළු කාලය තුළම කරන්නේ "සං" උපත ලබන ක්‍රියාදාමයක් කරමින්, සමුදය බිහිකර ගනිමින්, විශ්වයෙන් යමක් අල්ලා එකතු කර ගැනීමයි. රැස්කර උපාදානය කර ගැනීමයි. රැස් කරගත් දේ (සංඛත) ආහාර කොටගෙන ජීවත්වීමයි. එකතු කරගත් දේ චිත්තසංථානයේ ගබඩා කරගත් තරමටම, විඤ්ඤාණයත් සතුටට පත් වේ. මෙතැනදී විඤ්ඤාණය පුදුමාකාර වැඩක් කරනු ලබයි. ඒ මායාකාරී ක්‍රියාව නම් ඇස, කන, නාසය, දිව, කය, මනස යන ඉන්ද්‍රියයන් පිනවීම සඳහාම ක්‍රියාත්මක වීමයි. වැඩකාරයින් හය දෙනාවම මායාවෙන් මුළා කර වැඩ ගනී. වංචාවෙන් රවට්ටවා වැඩ ගනී.

මේ එකතු කිරීමේ, රැස් කිරීමේ, උපාදානය කර ගැනීමේ ප්‍රායෝගික පැත්තකුත් සළකා බැලිය හැකිය. ඔබ, ඔබ ගැනම මේ ටික සිතන්න. ඔබ උපත ලැබූ මොහොතේ, එනම් මේ ලොවට ජනිත වූ මොහොතේ, නූල් පොටකවත් දෙයක් මොළොවට නොගෙනාව ඔබ, අද වන විට එකතු කර ගෙන ඇති දේවල් ගැන මදකට සිතන්න. ඔබ ජීවත් වූ මේ වසර තිහ හතළිහ හෝ පණහක හැටක කාලයක් තුළ, ඔබට හිතා ගැනීමටවත් නොහැකි තරම් පෙනෙන නොපෙනෙන දේ ඔබම එකතු කරගෙන ඇත. ඒවා බොහෝමයක් ගෙවී වැය වී විනාශ වී ඇත. තවත් යම් ප්‍රමාණයකුත් ඉතිරි වී පවතී. මෙසේ එකතු කරගත් හැම දෙයක්ම එකතු කර ගන්නට මුල් වූයේ අවිද්‍යා සංඛාර පැවැත්වීමයි. සියලු සංඛත බිහිකර ගත්තේ සංඥාවක් මුල් වීමෙන් සමුදය බිහිකර ගැනීමෙන්මයි.

අම්මා, තාත්තා, සහෝදර සහෝදරියන්, අඹු දරුවන්, යාළුවන්, මිත්‍රයින්, අසල්වැසියන්, සේවක, ස්වාමි පක්ෂය වාගේම සතුරන්, ණයකාරයින්, වෛරක්කාරයිනුත් ඔබම එකතු කරගත් එක්තරා කොටසකි, ඔබ ඒ අයට සම්බන්ධ විය. ඒ අය ඔබට සම්බන්ධ විය. "සං" නොතිබුණේ නම්, සංඛාර නොකළේ නම් මෙවන් සම්බන්ධයක් ඇති නොවේ.

එසේම ඔබ අද පාවිච්චි කරන ඇඳුම් ආයිත්තම්, මිලමුදල්, රන් ආභරණ, යාන වාහන, ගේදොර, ඉඩකඩම් ආදී දහසක් දේ කිසිවක් උපතින්ම ඔබ ගෙන ආවේ නැත. ඒවා එකතු කර ගත්තේ සංඛාර පැවැත්වීමේ ප්‍රතිඵලයක් ලෙසයි. ඒවා හොඳයි, ප්‍රියයි ලෙස රූප සංඥාවක් ඇති වී, ඒ සංඥාවට බැඳී සංඛාරයක් පැවැත්වීමේ ප්‍රතිඵලය ඒවාට සම්බන්ධ වීමයි.

අද ඔබ සතු සියලු වත්කම්, පොහොසත්කම්, බලවත්කම් ඔබම එකතු කර, රැස් කර, ගබඩා කර ගත්, උපාදානය කර ගත් දේ ය. එසේ නොවේ නම් ඒවාට ඔබට සම්බන්ධ විය නොහැකිය. ඒවා ඔබේ බවට පත් කරගත නොහැකිය. ඔබේම දේවල්, එනම් මේ "භව" පවතින්නේ එසේ උපාදානය කරගත් දේ නිසයි.

මේ ආකාරයට එකතු කරගන්නා දේ අතරින් බලවත්ම කොටස ගතිගුණයි. හිතා ගැනීමටවත් නොහැකි තරම් විශාල ගතිගුණ කොටසකුත් තමන් ම එකතු කර තම චිත්තසංථානය තුළම තැන්පත් කර ගනී. මේ එකතු කර, රැස් කර ගන්නා ගති ගුණවලට අපි "ගති" ලෙස හඳුන්වමු. මේ "ගති" පිළිබඳව බොහෝ දේ කාටවත්ම හිතා ගැනීමටත් නොහැකියි. මෙවැනි "ගති" කොටසකුත් අපම සංසාරෙදි සාරයි යනුවෙන් අල්ලා එකතු කර ගෙන, තම තමන්ගේම චිත්තසංථානයේ ගබඩා කරගෙන පවතිනවා යන්න කිසිවෙකුට ධර්මය අසා දැනගන්නා තුරාවටම හිතා ගැනීමටත් නොහැකියි. තම තමන්ම සාරයි යනුවෙන් එකතු කර ගත් "ගතියක්" හැර, තමන් එකතු කර නොගත් දෙයක් තමා තුළ මුල් බැසගෙන පවතින "ගතියක් "හෝ "ගති" ලක්ෂණයක් හෝ විය නොහැකියි. මේ එකතු කරගත් ගති නිසා ගතිගුණ, ගති රුව, ගති හඬ මෙන්ම ගති බවත් (භව) තමා තුළින්ම මතු වේ. "ගතිය" යනු ඒක වචනයයි. "ගති" යන්න බහු වචනයයි. ''ගන්නවා'' වර්තමාන කාල පදයයි. ඒ පදයේම අතීත කාල පදය "ගත්තා" යනුයි. මේ ආකාරයෙන් තම තමන්ම එකතු කර රැස්කර ගත් "ගති" පසු කාලයක දී හුරු පුරුදු, චර්යා රටාවන්, අබ්බැහිකම් වැනි විවිධ වචනවලින් ව්‍යවහාරයේ දී හඳුන්වයි. මතක සටහන්, සංකල්පනා යනුද එකතු කර චිත්තසංථානයේම තැන්පත් කරගත් ගතිම යි. ගතියක් මතු කර සිතෙන්ම සංඛාර ලෙස ක්‍රියාත්මක කිරීම, සංකල්පනා පැවැත්වීමයි.

අප අතීත කාල පරාසයක දී එකතු කර, රැස්කර ගත්, චිත්තසංථානයේ තැන්පත් කර ගත් දෙයක්ම, පීරා හොයා බලා මතුකර ගැනීමට කරන සංඛාර පැවැත්වීම, සංකල්පනා ලෙස හඳුන්වයි. පනාවෙන් සිදු කරන්නේ පීරීමයි. මෙතැනත් කල්පනා යනු කාලය පීරීමකි. කාලය පීරා එකතු කිරීම, සංකල්පනාවයි. පුරුදු යනු අපම දවසෙන් දවස එකතු කර ගත් "ගති" එකින් එක පුරුද්දා හදාගත් පුරුද්දකි. අතීතයේ යම් ගතියක් එකින් එක එකතු කර පුරුද්දා ගත්තේ නැතිනම් අප තුළ හුරු පුරුදු නොපවතී. මහා කල්ප 91 ක් තුළම එකතු

කරගත්, හුරු පුරුදු කරගත් ගති ලක්ෂණ හැම කෙනෙකුගේම චිත්තසංථානය තුළ ගැබ් වී පවතී. අතීතයේ එකතු කරගත්, පුරුදු කරගත් ගතියට නැවත නැවතත් එකතු වන ගති ලක්ෂණයක් හැම පුද්ගලයෙකු තුළම මුල් බැස ගෙන පවතී. එසේ අතීතයේ දී එකතු කරගත් "ගති" නැතිනම් අනාගතයකුත් හිතා ගත නොහැකියි.

අනාගතය යනු තමන්ම අතීතයේ එකතු කර, ගබඩා කර ගත් "ගති" එකට අනාගෙන හදාගත්, හිතින්ම මවා ගත් දෙයක් පමණි. ඒ නිසා අනාගතය යනු අතීතයේ දී එකතු කර, අල්ලා ගත් ගතිවලින්ම හදා ගත්, මවා ගත් දෙයකි. සංකල්පනා පවත්වා අතීතයේ එකතු කර ගත් ගති මතුකර, සංඛාර වශයෙන් පැවැත්වීමට නොහැකි නම් කාටවත්ම අනාගතයක් ඇති නොවේ. මෙතැනදී, නිවන් අවබෝධයට උපකාර වන මූල ධර්මය මතු වේ. අතීතයේ එකතු කර, අල්ලා, රැස් කර, උපාදානය කර ගෙන පවතින "ගති" අපට අද අස් කරගත හැකි නම්, එසේ අස් කර, ගතිවලින් තොර තැනක් බවට චිත්තසංථානය හිස් කර ගත හැකි නම්, මෙතෙක් චිත්තසංථානය තුළ ගැබ් වී පැවති, සංසාර ගමන යෑමට උපකාර වූ රාග, ද්වේෂ, මෝහ ගති අස් කර, ඒ වෙනුවට වීතරාගී, නෙක්ඛම්ම, මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා ගති ඇතුළට ගැනීමට හුරු පුරුදු කර ගත හැකි නම් එයම නිවන් මාර්ගයයි. නිරෝධගාමී මාර්ග ප්‍රතිපදාව යනු මෙයයි.

රාග, ද්වේෂ, මෝහ යන කිළිටි ගති පමණක්ම විඤ්ඤාණයට ආහාර සපයන ගතියි. වීතරාගී, නෙක්ඛම්ම, අනාසව, අරිය චිත්තයකින් විඤ්ඤාණයට ආහාර සපයා ගත නොහැකියි. මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා ගති කිසිවක් ම විඤ්ඤාණයට ආහාර සපයන ගති නොවේ. මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා, නෙක්ඛම්ම, නිරාසව, වීතරාගී, අනාසව යන කිසිම සුදු ගති ගුණයකින් අවිද්‍යාවෙන්, තණ්හාවෙන් යමක් අලුතින් එකතු නොවේ. අතීතයේ එකතු කරන ලද දූන් චිත්තසංථානයේ ගැබ් වී පවතින කුණු අස් කර, ප්‍රහාණය කර, චිත්තසංථානය පිරිසිදු කිරීම පමණක් මේ ගති නිසා සිදුවන එකම ක්‍රියාවලියයි. මේ නිසාම මේවා කුසල මූල සංඛාර ලෙස නම් කෙරේ.

මෙසේ පෙර නොඇසූ විරූ ධර්මයක් අසා දූන් කෙනෙකුට තම තමන්ගේ ම මනස යොමු කර තම තමා දෙස ම, තම අධ්‍යාත්මය දෙසම බැලිය හැකියි. තමන් නේද මේ ගති සියල්ලම එකතු කරගෙන, රැස් කරගෙන, උපාදානය කරගත්තේ? සාරයි, වටිනවා යනුවෙන් එකතු කර ගත් මේ දේවල් නිසාම නේද තමන් සංසාරයට සම්බන්ධ වුණේ? එසේ එකතු කර, අල්ලා ගත් දේ නේද සංකල්පනා ලෙස තමන්ගේම සිතේ දූන් මතුවන්නේ? බුදුපියාණන් පෙන්වා වදාළ අරිය මාර්ගය අනුගමනය කළොත්, නිවැරදිව ම ධර්මය තේරුම් ගෙන අනුපුබ්බංගම ක්‍රියාමාර්ගයක් අනුගමනය කළොත්, අපට මේ සංසාර ගමන පිළිබඳව යථාර්ථය වැටහෙන්නට පටන් ගන්නව නේද?" යනුවෙන් තමන් තමා පිළිබඳව වටහා ගත යුතුයි.

තමන්ම සාරයි, ප්‍රියයි යනුවෙන් එකතු කරගන්නා ගතියක් නිසා ඉන්ද්‍රියයන් පිනවීමට සිදුවේ නම් ඇස, කන ආදී ඉන්ද්‍රියයන් සතුටු කරවිය හැකි නම් එය අපි සංතෝෂයක් ලෙස හඳුන්වමු. එකතු කරගත් ප්‍රිය දෙයක්ම නිතරම මෙවැනි සංතෝෂයකට හේතුවේ. අවිද්‍යාව නිසා එකතු කරගත් ප්‍රිය දෙයකින් ඉන්ද්‍රියයන් හයම පිනවීම

සංතෝෂයයි. කුසල මූල සංඛාරයක් පවත්වා අතීතයේ එකතු කරගත් කුණු, කෙළෙස් සළාහැර ලබන නිදහස් වීමේ සතුටකුත් ඇත. එය "සංතුට්ඨී" ලෙස ධර්මයේ පැහැදිළි වේ. සංතෝෂය යනු කාමය නිසා, කය රමණය කිරීමෙන් ලද සංතෝෂයයි. සංතුට්ඨී යනු නෙක්ඛම්ම නිසා එනම්, කාමයෙන් තොරවීම, වෙන් වීම නිසා ලබන සතුටයි. මෙතැනදී සිදු වන්නේ අතීතයේ එකතු කරගත් "සං" තුනී වී තුරන් වී යෑමයි. "සංතුට්ඨී පරමං ධනං" යනු අත්හැරීමෙන්, නොඇලීමෙන්, මිදී නිදහස් වීමෙන් ලබන සදාකාලික සුවයයි. අතීතයේ එකතු කරගත් කුණු සළාහැර, චිත්තසංථානයේ බර තුනී කර, අඩු කර ගැනීම සංතුට්ඨීයයි.

පෘථග්ජන පුද්ගලයෙක් නිතරම තණ්හාවෙන් එකතු කර, රැස් කරගත් විවිධ දේ නිසාම සතුටු වේ. එය සංතෝෂ වීමයි. මේ ආකාරයට යමක් තණ්හාවෙන් එකතු කර, රැස් කර සංතෝෂ වෙන හැම කෙනෙකුටම ඊළඟට මුහුණ දීමට සිදු වන්නේ සංතාපයට, සංවේගයට, සංවේදීතාවට පත්වීමටයි. ඊට හේතුව එකතු කර, ගබඩා කර ගත්, චිත්තසංථානයේ රැස් වී පවතින දේ තමන්ටම නොදැනී වෙනස් වී විපරිණාමයට පත් වී, ගෙවී, විනාශ වී යෑමයි. එකතු කරගත් දේ තමන්ට රිසි සේ, මනාප සේ, කැමැති සේ පවත්වා ගැනීමට නොහැකි වීමත් සමඟම මේ එකතු කරගත් ගතියම සංතාපයට, සංවේගයට, සංවේදනාවකටත් මුල් වේ.

පෘථග්ජන පුද්ගලයෙක් නිතරම කැමැත්තෙන්ම යමක් එකතු කර ගන්නේ තමාගේම ඉන්ද්‍රියයන් පිනවා, සතුටු කරවීමටයි. සතුටු විය හැකි ප්‍රිය අය, ප්‍රිය දේ, ප්‍රිය තැන් හා ප්‍රිය ධර්මතාවන් මෙසේ එකතු කරයි. මේ ආකාරයට යමක් එකතු කිරීමට කරන සංඛාර නිසා කැමැත්තට බැඳීම නිසා කෙනෙකු තුළම පටිසංවේදී යන තත්ත්වය ඇති වේ. පටි+සං+වේදී (පටිසංවේදී) යන වචන තුනෙන් අදහස් වන්නේ, වේදනාවක් විඳගැනීමට කැමැත්තෙන්ම එකතු කරගත් දෙයකට බැඳීමය යන අදහසයි. පෘථග්ජන පුද්ගලයෙක්, සත්ත්වයෙක් කරන, කියන, හිතන සියලු සංඛාර කරන්නේ පටිසංවේදී බවට අනුගත වීමෙනුයි. පටිච්ච වීම යනුද මෙයයි.

"සබ්බකාය පටිසංවේදී" යනුවෙන් ආනාපානසති සූත්‍ර දේශණාවේදීත් පෙන්වා වදාළේ මේ ධර්මතාවයි. මෙතැන කාය යනු ක්‍රියාවයි. රූප කාය, චක්ඛු කාය, විඤ්ඤාණ කාය ආදී වශයෙන් දක්වන සියලුම ක්‍රියා ඇසෙන්, කනෙන්, නාසයෙන්, දිවෙන්, කයෙන්, මනසින් යමක් එකතු කරගන්න කරන ක්‍රියාවක්මයි. කෙනෙක් ඉන්ද්‍රියයන් පිනවීම සඳහා තණ්හාවෙන් එකතු කර ගන්නා ගතියක් නිසාම සංතෝෂ වන බවත්, ඒ එකතු කරගත් දේම පසුවට බරක් වන අවස්ථාවේ දී එයම සංතාපයට, සංවේගයට, සංවේදනාවට හා පටිසංවේදී වීමටත් මුල් වන බවත් දැන් පැහැදිළි විය යුතුයි.

චිත්තසංථානයේ කළු, කිළිටි ධර්මතාවයක් තැන්පත් වීමෙන්ම, මේ සියලු ගති මතු වේ. කළු ධර්මයන්, කෙළෙස්, කුණු චිත්තසංථානයේ නැතිනම්, සංතාප වීමට හෝ සංවේගයට පත් වන්නට හෝ පටිසංවේදී වන්නට හෝ මුල්වන හේතුවක් මතු නොවේ. එසේම චිත්තසංථානයේ ගබඩා වී, උපාදානය කරගෙන පවතින කළු ධර්මයන් සළාහැර (කුණු සළාහැර) "සං" තුනී කර ගැනීමත් සමඟ "සංතුට්ඨී" යන තත්ත්වයට පත්වේ. මෙයද

ප්‍රීතියකි. සුවයකි. නමුත් මේ සුවය එකතු කරගත් දෙයක් නිසා ලබන ආමිස ප්‍රීතියක් හෝ සුවයක් හෝ නොවේ. අතහැර මිදී නිදහස් වීමේ ප්‍රීතියයි, සුවයයි. නෙක්ඛම්ම ප්‍රීතියක්, නිරාසව ප්‍රීතියක්, අනාසව ප්‍රීතියක්, සුවයක් යනු නිදහස් වීමේ සුවයයි, ප්‍රීතියයි.

මෙතෙක් කරන ලද "සං" විග්‍රහය අනුව හැම පුද්ගලයෙකුම සාරයි යනුවෙන් මෙසේ එකතු කර ගන්නා "සං" මේ සංසාර ගමනට එකම හේතුව බව දූන් තේරුම් ගත හැකිවනු ඇති. එයම සංසාර ගමනක් යෑම ලෙසද නම් කළ හැක. එකතු කර ගන්නා, එකතු කර ගත් දේ නිසාම ලෝකයට සම්බන්ධ වීමෙන්, ලෝකයක් තමන්ම හදාගෙන, තව තවත් දේ එකතු කර ගැනීමට නොනවත්වාම යන මේ අතෘප්තිකර ගමන සංසාර රිය ගමනයි.

එසේ නම්, යම් කිසි කෙනෙක් "සං" පිළිබඳව ඥාණ පද හතරම අසා දූන නිවැරදිව තේරුම් ගත්තොත් "සං" යනු කුමක්ද? සංසාර ගමන යනු කුමක්ද? යන්නත් හරියාකාරවම දූන "සං" දූක ගැනීමටත් හැකි වේ. එසේ නිවැරදිවම අසා දැනගත්, දූකගත් කෙනෙකුට පමණක්ම සංසාර දුකෙන් සදහටම මිදී නිදහස් වන්නටත් උපකාර වන "සංදිට්ඨිකෝ" යන තත්ත්වයට පත්වන්නටත් හැකියාව ලැබේ. එසේ නැතිව ධර්මය වඳින ගාථාව සිය දහස් වරක් නොව ලක්ෂ වාරයක් කියව කියවා හිටියත් "සං" දූක ගැනීමට නොහැකි බවත් "ධම්මෝ සංදිට්ඨිකෝ" තත්ත්වයට පත් වීමට නොහැකි බවත් කවුරුත් නිවැරදිව තේරුම් ගත යුතුයි.

පටිච්චසමුප්පාද විග්‍රහයෙන් ඉදිරිපත් කරනු ලබන්නේ, "සං" උපත ලබන්නට, සමුදය බිහිවන්නට හේතුවන, ප්‍රත්‍ය වන, නිදානය වන කරුණු සිතක් තුළම ක්‍රියාත්මක වන විවිධ ආකාරයන් විග්‍රහ කර පෙන්වා දීමයි. "සං" උපත ලබන්නට හේතුව "පටිඉච්ච" වීමයි. "පටිඉච්ච වීම" හේතුකොට, ඵලය විපාකය ලෙසින් "සං" උපතක්, සමුදය ධර්මයක් බිහි වීමක් නියත වශයෙන් සිදුවේ. "චක්ඛුං ච පටිච්ච රූපේ ච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං."

අපේ හිතේ කැමැත්තක්, තණ්හාවක් ඇති නොවේ නම්, ඡන්දරාගයක් ඇති නොවේ නම්, අපි යමකට සම්බන්ධ නොවන බව කාටත් තේරුම් ගත හැකියි. යමකට කැමැත්තක් නැතිනම්, ප්‍රිය බවක් නැතිනම් එය ඉවත් කිරීමට ක්‍රියාකරනවා මිස එය වැළඳ ගැනීමට ක්‍රියා නොකරයි. උපාදානය කර නොගත්තේ නම් "සං"නූපදී, "සං" භව සිතේ හට නොගනී. බව නැතිනම් ජාතිත් ඇති නොවේ.

බුදුපියාණන්වහන්සේ ස්වයංභූ ඥාණයෙන්ම සොයා දූන ලෝකයාට දේශණා කර වදාළ පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහය එතෙක් ලෝකයේ ක්‍රියාත්මක වූ, මිනිසුන් අතරේ භාවිතා වූ, මිනිසුන් දූන සිටි දහමක් නොවේ. බුදුපියාණන්වහන්සේම විසින් තමන්ගේම ස්වයංභූ ඥාණයෙන්ම මතුකර, සොයා දූන, ඉදිරිපත් කරන ලද ධර්මය "පුබ්බේ අනනුස්සුතේසු ධම්මෝ" ලෙස හැඳින්වූ දහමයි. පෙර අසා නුපුරුදු, අසන්නට නොතිබුණු "සං" දේශණාවක් "සං" උපත පිළිබඳ ඉදිරිපත් කරන ලද විග්‍රහයකි. මේ නිසා පටිච්ච සමුප්පාද විග්‍රහයෙන් තොර සංදේශණාවක් හෝ සංදේශණාවකින් තොර පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයක් හෝ ඇත්තේ නැත.

ඔබ හැම කෙනෙක්ම "ස්වාක්ඛාතෝ භගවතා ධම්මෝ සංදිට්ඨිකෝ" යනුවෙන් නිතර නිතර කියවන ධර්මයට වඳින ගාථාවෙන් පෙන්වූ ධර්මයේ ගුණ හයම නිවැරදිව තේරුම් ගැනීමට නම් "සං" දැක ගත යුතුමයි. "සං" නිවැරදිව දැක නොගත්තේ නම්, "සංදිට්ඨිකෝ" නොවී නම් එතැන සඳහන් වන අනෙක් ගුණයන් පහමත් තේරුම් ගත නොහැකියි.

ඔබ මෙතෙක් අතීත සංසාර ගමනේදී කරන ලද, අද කරන, මතුවට ඔබට කරන්නට සිදු වන ක්‍රියාවන් "සං" යන පදයෙන් ධර්මයේ විග්‍රහ කර පෙන්වා දී ඇත. මෙසේ අතීතයේ එකතු කරගත් දේ, අද එකතු කර ගන්නා දේ හා මතුවට එකතු කරන්නට සැළසුම් කර ඇති දේ හේතුඵල පරම්පරාවක් පැවැත්වීම ලෙස හැඳින්වේ. මේ යථාර්ථය තේරුම් ගත් පුද්ගලයා "සම්මා දිට්ඨියට" පත් වූ "සං" පිළිබඳව නිවැරදි දැක්මක් ඇති කරගත් කෙනෙකු බවටත් පත් වේ. මෙතෙක් කලක් "සං" සාරයි ලෙස දුටු පුද්ගලයා දැන් "සං" පිළිබඳව යථාභූත ඥාණ දර්ශනයක් ලබා ගැනීමෙන් තමා තමන් තුළම අලුත් පරිවර්තනයක් ඇති කර ගැනීමටත් ක්‍රියා කරයි. මෙය අරිය සත්‍යයන් අවබෝධ වීමයි.

මේ නව දැක්ම නිසා පරිවර්තනය නිසා සිදු වන්නේ සංසාරයෙන් මිදී නිදහස් වීමේ ක්‍රියාමාර්ගයට යොමු වීමයි. මේ නිවැරදි මඟ දැකීම "දස්සනේන සම්පන්නෝ" ලෙස, කරණීයමෙත්ත සූත්‍රයේත්, සබ්බාසව සූත්‍රයේත් ඉතාම පැහැදිළිවම ප්‍රකාශ කර වදාළ "සං" දැක ගැනීමයි. "සං" වලින් මිදී නිදහස් වන මාර්ගය දැකීමයි. "සම්පන්නෝ'' යනු "සං" ප්‍රහාණය කරන මඟට පැමිණීමයි. මඟට පත්වීමයි. බුදුපියාණන්වහන්සේ පිරිණිවන් පෑමට පෙර අවසාන වශයෙන් භික්ෂූන්ට දුන් අවවාදයත් "අප්පමාදේන සම්පාදේත" යන උපදේශයයි. මෙහි "සම්පාදේත" යනු "සං" ප්‍රහාණය කරන මඟ අසා දැන, "සං" ප්‍රහාණය කරන මාර්ගයට පත්වී, නිවන් සුවයට පත් වීමයි. නිවන සඳහා එකම නිවැරදි මඟ "සං" දැන "සං" දැක "සං" ප්‍රහාණය කර සම්මා වීම මිස වෙනත් කිසිවක් නොවන බව අවධාරණයෙන්ම බුදුපියාණන් මෙහි දී ප්‍රකාශ කර වදාළහ.

මේ ආකාරයට "සං" පිළිබඳව දේශණා කර වදාළ බුදුපියාණන් වහන්සේ "සංපාදේත" යන තත්ත්වයට පත්වීම සඳහා පියවර තුනක්ම සම්පූර්ණ කරගත යුතු බව පෙන්වා වදාළහ. මේ පියවර තුන ත්‍රිශික්ඛා ලෙස හැඳින්වේ. අධි සීල, අධි චිත්ත, අධි පඤ්ඤා යනු මේ පියවර තුනයි. "සංවර, සංසිඳවීම, සම්මා" යනුද මේ පියවර තුනමයි.

"සං" තේරුම් ගත් කෙනෙකුටම මිස සංවර සීලයේ පිහිටා කටයුතු කළ නොහැකියි. චුල්ලහත්ථිපදෝපම සූත්‍රයේ බුදුපියාණන්වහන්සේම ජානුස්සෝනි බ්‍රාහ්මණයාට පෙන්වා වදාළේ පළමු ඥාණ පදය වන සංවර සීලයේ පිහිටීමට උපකාර වන කරුණුයි. "වේරමණී සීලය" යනු එකකි, "සංවර සීලය" යනු ඊට වඩා බොහෝම බලවත්, නිවනට උපකාර වන නිවැරදි මාර්ගයයි. සංවර සීලයේ පිහිටා කටයුතු කරන විට, චේතනා සීලය, ප්‍රහාණ සීලය, සංවර සීලය, වේරමණී සීලය හා අවිතික්කම සීලය යන පංච සීලයම කෙනෙකු තුළ පිහිටයි. වේරමණී සීලයෙන් සිදු වන්නේ වෙන්වීම පමණි.

සීලයෙන් සංවර වීම යනු තම තමන්ගේම ඇස, කන, නාසය, දිව, කය, මනස යන

ඉන්ද්‍රියයන් හයෙන් ඇතුළට එකතු කරගන්නා රාග, ද්වේෂ, මෝහ ගති එකතු කිරීමේ ක්‍රියාවලියෙන් වැළකී සිටීමයි. එකතු කිරීම වාරණය කිරීමයි. එකතු කිරීමේ ක්‍රියාවලියෙන් වෙන්වීමයි. රාග, ද්වේෂ, මෝහ ගති එකතු කරන හැම කෙනෙක්ම ඒ ගති එකතු කරන්නේ, ඒ ගතිවල යම් වටිනාකමක්, යම් සාරවත් බවක් ඇති යැයි දකින දැක්ම නිසාමයි. ඒ නිසා නිවැරදිවම "සං" පිළිබඳව යථා තත්ත්වය, ඇත්ත ඇති සැටියෙන් තේරුම් නොගත් කෙනෙකුට සංවර සීලයේ පිහිටා කටයුතු කර රාගයෙන් තොර, ද්වේෂයෙන් තොර, මෝහයෙන් තොර, විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත ධම්මානුධම්ම ප්‍රතිපදාව අනුගමනය කළ නොහැකියි. මේ ගැන නිවැරදි දැනීමක් හා දැකීමක් ඇත්තේද නැත.

මේ අනුව සංවර සීලය නිවන් මාර්ගයේ පළමු වැනි හා වැදගත්ම පියවරයි. සංවර සීලය හා වේරමණී සීලය යනු එකම සීලයක් නොවේ. සීලයක් සමාදන් වීම හා සීලයේ පිහිටා ක්‍රියා කිරීමත් දෙයාකාර, දෙවිධියක ක්‍රියාමාර්ගයන් දෙකකි. "යං සමාදානං තං වතං, සංවරට්ඨේන සීලං" යනුවෙන් බුදුපියාණන්වහන්සේම මේ දෙකෙහි වෙනස්කම් පැහැදිළි කර වදාළහ. යම්කිසි සමාදන් වීමක් සීලබ්බත පරාමාසයට මඟ පෙන්වන බවත්, තමන්ම සංවරත්වයට පත් වීමෙන් "සීලබ්බත පරාමාස දෘෂ්ටියෙන්" ද වෙන්වී සංවර බවට පත්වන බවත් මෙයින් පැහැදිළිවම පෙන්වා දී තිබේ.

"සං" යනු එකතු කිරීම හා රැස් කිරීමයි. සංවරත්වයට පත්වීම, සංවර සීලයේ පිහිටීම යනු "සං" එකතු කිරීම නවත්වා දැමීමයි. මෙසේ එකතු කිරීම නවත්වන්නේ, වාරණය කරන්නේ රාග, ද්වේෂ, මෝහ යන කළු ධර්මයන් එකතු කිරීමෙන් වැළකීමට යි. බුදුපියාණන්වහන්සේ ලෝකයාට මේ ආකාරයට අලුතෙන්ම හඳුන්වා දුන් සීල ප්‍රතිපදාව, එතෙක් කාලයක් භාවිතයේ පැවැති වේරමණී සීලයට වඩා බලවත් එකකි. එය සංවර සීලය, දහසක් සංවර සීලය, ප්‍රත්‍ය "සං" නිශ්‍රිත සීලය, උපසම්පදා සීලය, කෝටියක් සංවර සීලය, අරියකාන්ත සීලය යන උතුම් සීලයයි.

සීලය යනු ළය සිසිල් වීම යන අර්ථයයි. සංවර සීලය මිස එකොළොස් ගින්නකින් දැවෙන, තැවෙන ළය සිසිල් කිරීමට, ගින්න නිවා දැමීමට වෙනත් ක්‍රමයක් නැත. විඤ්ඤාණයේ අවශ්‍යතාව ගිනි ගන්නා දර ඇතුළට ගෙන, මේ ගිනි මැළය අවුළුවා ගෙන, ඒ දැවීමෙන්, තැවීමෙන් මතු කර ගන්නා ශක්තියෙන්, සංවේගයක් උපදවා ගෙන සංසාර ගමන යෑමයි. විඤ්ඤාණය නිතර සුන්දර දේම එකතු කරයි. මේ සුන්දර සියලු දේ නිසාම ගින්දර මතු වේ. රාගයෙන් ඇලෙන සියලු දේ සුන්දර දෙයක්ම වේ. ඒ නිසාම විඤ්ඤාණයට ආහාර ලැබෙන්නේ ගින්දර ඇවිළෙන තාක් කාලයක් පමණි. ළය සිසිල් වීමත් සමඟම අලුතින් දර දැමීම නතර වී ගිනි මැළය බාල වේ. රාග, ද්වේෂ, මෝහ තුනම ගිනි මැළය අවුළුවන දරයි. ඒවා සුන්+දර දේ යනුවෙන් හඳුන්වන්නේ ඒ හේතුවෙනි.

සංවර වීමත් සමඟම කෙනෙක් සං+සුන් වේ. සංසුන් වීමට නම් කෙනෙක් සංවර විය යුතුමයි. සුන්දර දේ එකතු කර, රැස් කිරීම නතර කළවිට සංවර වන බව වැටහේ. හදවතේ ගිනි ඇවිළීමට, දැවීමට මූලිකම හේතුව එකතු කර ගත් සුන්දර දේවල දර ඇවිළී, සුන් වී "සං" බිහි වීමයි. දැන් පළමුවන පියවර වූ සංවරත්වයේ පිහිටා ක්‍රියාකරන විට ළය සිසිල් වී, ගිනිගොඩේ ඇවිළෙන වේගය අඩාල වේ.

සංවර සීලයෙන් හෝ කෝටියක් සංවර සීලයෙන් හෝ කෙනෙකුට කරගත හැකි වන්නේ අලුතෙන් "සං" එකතු කිරීමෙන් වැළකී සිටීම පමණි. සංවර වූ මොහොතට පසුව මතුවන රාග, ද්වේෂ, මෝහ එකතු කිරීමෙන් වැළකී සිටීමයි. නමුත් අතීතයේ කවදා හෝ එකතු කර, රැස් කර දැනටමත් චිත්තසංථානයේ තැන්පත් කරගත්, ගබඩා වී අදටත් ක්‍රියාත්මකව පවතින "සං" ඉවත් කිරීමේ, ප්‍රහාණය කිරීමේ ශක්තියක්, හැකියාවක් සංවර සීලයට පමණක්ම නොමැත. ඒ සඳහා දෙවන පියවරක් ක්‍රියාත්මක කළ යුතුයි. ඒ දෙවන පියවර සංසිඳවීමයි. සංවර නොවූයේ නම්, සංසිඳවීමක් කළ නොහැකියි. අලුතින් ගිනි ගොඩට දර එකතු කිරීම නැවැත්වීමෙන් පසුව, අතීතයේ එකතු කරගත්, දැනටත් ඇවිළෙමින් පවතින දර කොට ඉවත් කිරීමට හැකියාවක් ලැබේ. මේ අනුව සංසිඳවීම යනු අතීතයේ එකතු කරගත් රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණයන් චිත්තසංථානයෙන් ඉවත් කර ඒ ගති සිඳ දැමීමයි.

චිත්තසංථානයේ ගබඩා වී පවතින "සං" අතර යහපත්, හොඳ ගති ලක්ෂණද තැන්පත් වී ඇත. ඒ හොඳ ගති නිවන් දකිනා මොහොත තෙක්ම උපකාර කරගත හැකි ඒවා වේ. සංසිඳවීමේදී සිදුවන්නේ රාග, ද්වේෂ, මෝහ වැනි විඤ්ඤාණයට ආහාර සපයන සංසාර ගමනට ඉන්ධන සපයන කෙළෙස් ගති තෝරා, බේරා, පෙරා, මැන ඉවත් කර දැමීමත්, යහපත් ගති තෝරා, බේරා, ඉතිරි කර ගැනීමත් යන ක්‍රියාවලියක යෙදීමයි. එසේ නැතිව චිත්තසංථානයේ ගබඩා වී පවතින සියලුම හොඳ හා නරක ගති ගුණ සියල්ලම ප්‍රහාණය කර, අස්කර දමා ඉවත් කිරීම නොවේ. මේ සංසිඳීමේ ක්‍රියාවලියත් නිවැරදිවම තේරුම් ගෙන යථාවබෝධයෙන්ම කළයුතු වැඩපිළිවෙලකි.

කළයුතු දේ හා නොකළයුතු දේ යන ක්‍රියාවන් දෙකෙහි වෙනස්කම් තේරුම් නොගෙන, යහපත් හා අයහපත් යන ගති දෙකම ඉවත් කර, ප්‍රහාණය කර දැමීමෙන්, අසංඥ යන තත්ත්වයට පත්වන බවත් තේරුම් ගත යුතුයි. මේ නිවැරදි සංසිඳවීමේ ක්‍රමය විග්‍රහවන්නේ අරිය භාවනා ක්‍රමයකම පමණි. අනරිය භාවනාවලදී සිදු වන්නේ හොඳ, නරක දෙකම ඉවත් කර අසංඥ තත්ත්වයට පත්වීමයි. අනරිය, අරූපී ධ්‍යානවලට පත්වීම යනු මේ අසංඥ තත්ත්වයට පත්වීමයි. චුල්ලහත්ථිපදෝපම සූත්‍රයේදීත් මේ අරිය ධ්‍යානයන් පිළිබඳවත් පෙන්වා දී තිබේ.

සංසිඳවීම නැතිනම් "පස්සදී" යන ක්‍රියාව තේරුම් ගැනීමට උපමාවකින් පැහැදිළි කළ හැකියි. අපි තෙල් සිඳීම පිළිබඳව දනිමු. පෙර විසූ අපේ මව්වරු පොල් ගා, මිරිකා පොල් කිරි ලිපේ තබා පස්සයි. මෙතැනදී පොල් කිරිවල ඇති ජලය වාෂ්ප වී තවත් කොටසක් කල්ක ලෙස අඩියට මිදේ. තෙල් වූ කොටස පමණක් වෙන් කර, බේරාගෙන ප්‍රයෝජනයට ගනී. මේ අනුව තෙල් සිඳීම යනු ප්‍රයෝජනයට ගත නොහැකි කොටස් ඉවත් කර ප්‍රහාණය කර හොඳ කොටස පමණක් ඉතිරි කර ප්‍රයෝජනයට ගැනීමයි. ඒ අයුරින්ම සංසිඳවීමෙන් සිදු වන්නේද අතීත කාලයක් තුළදී තමන්ම එකතු කර තම චිත්තසංථානයේම තැන්පත් කර තිබූ ගතිවලින් රාග, ද්වේෂ, මෝහ යන අපිරිසිදු කළු ධර්ම කොටස් සිඳ, ඉවත් කර, අලෝභ, අද්වේෂ, අමෝහ යන හොඳ කොටස් ඉතිරි කර ගැනීමයි.

සංදේශණාව පිළිබඳව ධර්මාවබෝධයක් ලබා ගත් ඔබට සංවර වීමටත් හැකියාවක්,

ශක්තියක් ලැබී ඇත. ධර්මය අසා, ධර්මය මෙනෙහි කර, විපස්සනා නුවණ පහළ කර ගැනීමෙන්, පියවර දෙකක් ම සම්පූර්ණ කර ගැනීමත් සමගම සංවර වී, සංසිඳී, සංසුන් වී, සංයමයට පත්වීම නිසා සම්මා දිට්ඨියේ පටන් සම්මා සමාධිය තෙක් ඇති සම්මා අංගයන් අටමත් සම්පූර්ණ කර ගැනීමටත් හැකියාව ලැබේ.

සංසිඳීමත් සමගම කායේ කායානුපස්සනාවත්, වේදනා වේදනානුපස්සනාවත්, චිත්තේ චිත්තානුපස්සනාවත් සම්පූර්ණ වේ. සංසිඳීමේ ප්‍රතිඵලයක් ලෙස පස්සද්ධියට පත් වේ. පටිසංවේදී බව නැති වීමත් සමගම කාය සංඛාර, චිත්ත සංඛාරවලින් මෙතෙක් බැඳ තිබුණු ඉන්ද්‍රියයන් පිනවීමේ ක්‍රියාවලියෙන්ද ඉවත් වී, චිත්ත ප්‍රසාදයට, ප්‍රමෝදයට, විමෝචයට, මිදී නිදහස් වීමට, සංසිඳීමට උපකාර වේ.

සංවර වීම, සංසිඳවීම කරගත් පසුව, දැන් චිත්තසංථානයේ අනාදිමත් කාලයක පටන් මුල් බැස ගෙන තිබූ සමහර ගතිවලට අදාළ ගති මුල් පමණක් ඉතිරිව පවතී. මේ රාග, ද්වේෂ, මෝහ ගති මුල් චිත්තසංථානයෙන් උදුරා නොදැම්මොත්, කවදා හෝ රාග, ද්වේෂ, මෝහ ගති යළිත් එකතු කර සංසාර ගමනට එකතු වීමට විඤ්ඤාණයට ශක්ති මූලයක් ඉතිරි වේ. ඒ නිසා රාග මුල - රාග බව උදුරා දමා, චිත්තසංථානය සහමුලින්ම ශුද්ධ පවිත්‍ර කර, නැවත කවම කවදාවත් මේ ගති මතු නොවන්නට, "නිර් උදා" කරන්නට ක්‍රියා කළ හැකි වන්නේ අරිය සම්මා අංගයන් සම්පූර්ණ කර ගැනීමෙන්ම පමණි. මෙය "නිරෝධගාමී පටිපදාව" සම්පූර්ණ කිරීමයි.

මෙතැන දී "සම්මා" යනුවෙන් අදහස් කළේ අද භාවිතයේ පවතින හොඳ, යහපත්, නිවැරදි තත්ත්වයකට පත්වීම සඳහා ක්‍රියා කිරීම පමණක්ම නොවේ. රාග, ද්වේෂ, මෝහ ගති මුල් ඉවත් කිරීමත් සමගම, හොඳ, යහපත්, නිවැරදි, ලෞකික සම්මා අංගවලටත් පත් විය හැකිය. නමුත් තමන්ම එකතු කරගත් රාග, ද්වේෂ, මෝහ ගතිවලින්ම මිදී නිදහස් වන්නට නම්, ඒ ගති මුලින්ම උදුරා දමා සහමුලින්ම නිදහස් විය යුතුයි. එය අරිය අෂ්ටාංගික මාර්ගය වූ ලෝකෝත්තර සම්මා අංග අටයි. ලෝකෝත්තර සම්මා අංගයන් අටත්, සම්මා ඥාණ, සම්මා විමුක්ති යන අංග දෙකත් සම්පූර්ණ කර ගැනීමට නම් කුණු මුල් ගළවා ඉවත් කිරීම සඳහා තමන්ම ක්‍රියාකළ යුතුයි. "සං" දැක ගත් කෙනෙකුට ලෝකෝත්තර සම්මා දිට්ඨිය නිවැරදිවම අවබෝධ කරගත් කෙනෙකුට මෙය පහසුවෙන්ම කරගත හැකියි. අතීතයේ එකතු කරගත් "සං" ගතිවලින් සම්පූර්ණයෙන්ම මිදී නිදහස් විය යුතු බව දැකීම, අරිය සම්මා දිට්ඨියයි.

මෙතැනදී ද සරළ උදාහරණයකින් මෙම ක්‍රියාවලිය විග්‍රහ කර පෙන්වා දිය යුතුයි. රාග, ද්වේෂ, මෝහ නැමති දර එකතු කර, අවුළුවා, පවත්වාගෙන යන එකොළොස් ගින්නකින් යුත් සංසාර ගමන ගැනම සිතන්න. ගින්න නිවීමේ පළමු පියවර වන්නේ සංවර වී ඉන්ද්‍රියයන් හයමත් සංවර කර, අලුතින් දර එකතු කිරීමත් නවතා දමා ගිනි ගොඩ මෙල්ල කරගැනීමයි. දෙවනුව අතීතයේ එකතු කරගත් රාග, ද්වේෂ, මෝහ ගති ඉතිරි කොටසක්ද සංසිඳවීමෙන් ඉවත් කර දමා, ගිනි ගොඩ සහමුලින්ම නිවා ගැනීමයි. ගිනිගොඩ නිවී ගියද අළු තට්ටුව යට තවමත් ගිනි අඟුරු ඉතිරි වී පවතී. මේ ගිනි අඟුරු බාහිර වශයෙන් දැක ගැනීමත් පහසු කාර්යයක් නොවේ. එමෙන්ම රාග, ද්වේෂ, මෝහ යටපත් වුවද මෝහ මුල්

තවමත් චිත්තසංථානයේ ජීවමානවම පවතී.

ගිනි ගොඩේ අළුයට නොනිවී පවතින ගිනි අඟුරු මතු කර, නිවා දමන්නාක් මෙන්, චිත්තසංථානයේ ගබඩා වී පවතින, මෝහ ගතියෙහි මුල් ද ඉවත් කර, ප්‍රහාණය කර දැමිය යුතුමයි. මෝහ මුල් චිත්තසංථානයේ ඉතිරිව පවත්නා තාක් කල් නැවතත් රාග, ද්වේෂ ගතිගුණ එකතු වී, නැවතත් එකතු කිරීමේ සංසාර ගතියට, ක්‍රියාවලියට, හේතුඵල පරම්පරාවට බැඳීමත් සිදු වේ. මෙය ගිනි ගොඩේ ගිනි අඟුරු ඉතිරිව පවතින තාක් කල් නැවතත් දර එකතු කර, ගිනි ගොඩ අවුළුවා ගැනීමට හැකි වීම හා සමාන වේ.

මෙහිදී පෙන්වූ උදාහරණයේ කී පරිදි මතුපිටින් දකින්නට නැති, නොපෙනෙන, අළු යට සැඟවී ඇති ගිනි අඟුරු නිවා දැමීම පහසුවෙන් කළ නොහැකිවාක් මෙන්ම, චිත්තසංථානයේ ගබඩා වී ඇති මෝහ මුල් සීලයෙන් හෝ සමාධියෙන් හෝ ප්‍රහාණය කර අස්කර දමා නිදහස් විය නොහැකියි. ඒ නිසා සංවර වීම හෝ සංසිඳවීම හෝ යන ක්‍රියා දෙක මගින් මෝහ මුල් ගළවා, භව උදුරා දමා, බු+උද්ධ තත්ත්වයට පත්වීමට නම් ලෝකෝත්තර සම්මා අංගයන්ම යථාපරිදි දැන, තේරුම් ගෙන භාවිතා කළ යුතුමයි.

සම්මා යන පදයෙන් විග්‍රහ කර, මතු කර පෙන්වා දුන් ධර්ම අර්ථය නම් "සං" වලින් පූර්ණ ලෙස මිදී නිදහස් වීමය යන අදහසයි. ගෝතම බුදුපියාණන්වහන්සේ ස්වයංභූ ඥාණයෙන්ම සොයා දැන ලෝකයාට දේශණා කර වදාළ මේ ධර්ම අර්ථය එතෙක් ලෝකයා අසා දැන සිටි එකක් ද නොවේ. "මා" යන පදයේ තේරුම මිදී නිදහස් වීම යන අදහසයි. "සං" යනු එකතු කර, රැස් කරගත් ගති යන අදහසයි. රාග ගතිය, ද්වේෂ ගතිය, මෝහ ගතිය "සං" ලෙස විග්‍රහ වේ. ඒවා එකතු කරගත් ගතියි. ඒ ගති මුල් උදුරා දැමීම සම්මා යන පදයේ ලෝකෝත්තර අර්ථයයි.

ලොව්තුරා බුදුපියාණන්වහන්සේ කෙනෙක් ලෝකයේ පහළ වී බුද්ධත්වයට පත්වීමෙන් පසුවම පමණක් මේ තිපරිවට්ටයම දේශණා කර, පැහැදිළි කර ලෝකයාට ප්‍රකාශ කිරීම සිදු කරනු ලබයි. අනික් කාලවලදී තිපරිවට්ටය භාවිතයෙන් ඉවත් වී, අභාවයට යයි. ගෝතම බුදුපියාණන්වහන්සේ එදා තමන්ම සොයා දැන, ලෝකයාට දේශණා කර වදාළ පටිච්චසමුප්පාද ධර්මයේත් තිපරිවට්ටයක් ඇත. අරිය අෂ්ටාංගික මාර්ගයේත් සීල, සමාධි, ප්‍රඥා යන ත්‍රිශික්ඛාවටමත් අදාළවත් තිපරිවට්ටයක්ම දේශණා කළහ. පසුගිය වසර දහසක් පමණ වූ කාලයක් තුළ තිපරිවට්ටය යටපත් වී, අභාවයට ගොස් නිවන් මඟ වැසී ගිය බව කවුරුත් සිහිපත් කරගත යුතුයි. අද නැවතත් සියලුම ධර්ම කරුණුවලට අදාළව බුද්ධ දේශණාවේ එන තිපරිවට්ටයම විග්‍රහ කර ලෝකයාට පැහැදිළි කර දීමට හැකියාව හා ශක්තිය ඇති උත්තමයින් ජීවත් වන නිසා නිවන් මාර්ගයද, අරිය මාර්ගයද දැන් ලෝකයාට විවෘත වී පවතී.

සංවට්ට, පරිවට්ට, විවට්ට යනු එම වට්ට තුනයි. සීලයේ තිපරිවට්ටයත් ඉතාම කෙටියෙන් පැහැදිළි කර ගත යුතුයි.

.

1. පාණාතිපාතා හෝති, අදින්නාදානා හෝති, කාමේසුමිච්ඡාචාරා හෝති,

මුසාවාදා හෝති, සුරාමේරය මජ්ජපමාදට්ඨානා හෝති යනු මිච්ඡා සීලයයි.

2. පාණාතිපාතා වේරමණී, අදින්නාදානා වේරමණී, කාමේසුමිච්ඡාචාරා වේරමණී, මුසාවාදා වේරමණී, සුරාමේරය මජ්ජපමාදට්ඨානා වේරමණී යනු ලෞකික සීලයයි.

3. පාණාතිපාතං පහාය පාණාතිපාතා පටිවිරතෝ හෝති
අදින්නාදානං පහාය අදින්නාදානා පටිවිරතෝ හෝති
අබ්‍රහ්මචරියං පහාය බ්‍රහ්මචාරී හෝති
මුසාවාදං පහාය මුසාවාදා පටිවිරතෝ හෝති
සුරාමේරය මජ්ජපමා දට්ඨානං පහාය මජ්ජපමා දට්ඨානා පටිවිරතෝ හෝති.

මේ අරිය සංවර සීලයයි. ප්‍රත්‍ය සංනිශ්‍රිත සීලයයි.

සමාධියේ තිපරිවට්ටයද මෙසේ ම පෙන්වා දිය හැකියි.
1. මිච්ඡා සමාධි
2. ලෞකික සමාධි - අනරිය සමාධි
3. ලෝකෝත්තර සමාධි - අරිය සමාධි

අරිය අෂ්ටාංගික මාර්ගයේත් තිපරිවට්ටයක්ම විග්‍රහ වේ.
1. මිච්ඡා අෂ්ටාංගික මාර්ගය
2. ලෞකික අෂ්ටාංගික මාර්ගය
3. ලෝකෝත්තර අෂ්ටාංගික මාර්ගය

මේ හැම අවස්ථාවකදීම තිපරිවට්ටයම යථාපරිදි අවබෝධ කරගැනීමට උපකාර වන්නේ, "සං" දේශණාවෙන් විග්‍රහ කර පෙන්වා වදාළ "සං" පිළිබඳව ඥාණ පද හතරම පිළිබඳව නිවැරදි අවබෝධයක් ලබාගත් කෙනෙකුටම පමණි. ඒ හැර වෙන කෙනෙකුට නිවන පිළිබඳව අවබෝධය ලැබීමක් ගැන අද සිතන්නටවත් නොහැකියි. ඊට හේතුව සීල, සමාධි, පඤ්ඤා යන ත්‍රිවිධ ශික්ඛාවෙහි තිපරිවට්ටය භාවිතයෙන් යටපත් වී යාමයි.

සමාධියත්, ධ්‍යානයත්, සමාපත්තියත් යනු අවස්ථා තුනකි. යම් අරමුණක් කෙරෙහි හිත එකග කර ගෙන කෙනෙකුට මොහොතකට හෝ සමාධි ගත විය හැකියි. හැම කෙනෙකුටම මෙවන් සමාධියකට පත් වී, සුළු කාලයක් සිත එකග කර, සිත තැන්පත් කරගත හැකිය. නමුත් සමාපත්තිය යනු "සං" වලින් මිදුණු, කෙළෙස් එකතු කිරීමෙන් තොරව, සිත "සං" වලින් මිදී නිදහස් වූ තත්ත්වයෙන්ම යම් කාලයක් තුළ එක දිගට ම පවත්වා ගැනීමේ ශක්තියයි. සමාපත්තියකට පත්වීමට හැකියාව ඇත්තේ අරිය උත්තමයෙකුට පමණි. සෝවාන් මාර්ග ඵලයට පත් වූ අරිය උත්තමයාට සෝවාන් ඵල සමාපත්තියට සමවැදී සුළු කාලයක් ගත කළ හැකි වේ. මගඵල සමාපත්තිය, අරහත් ඵල සමාපත්තිය, ආනන්තරික ඵල සමාපත්තිය සංඥා වේදයිත නිරෝධ සමාපත්තිය, මහා කරුණා සමාපත්තිය වැනි සියලුම සමාපත්තීන්ට සමවැදීමට හැකියාව, ශක්තිය ඇත්තේ "සං" තේරුම්ගත් අරිය උත්තමයින්ට පමණි.

ධ්‍යාන යනු මීට වඩා වෙනස් එකකි. රාග, ද්වේෂ, මෝහ ගති තාවකාලිකව දවා හැර, කෙළෙස් යටපත් කර, ඒ ගති තාවකාලිකව අත්හැරීම ධ්‍යානයක් ලැබීමයි. සමාධි

ගතවීමෙන් පසුව ලබාගත් ධ්‍යානයකටද සමවැදී, ධ්‍යාන සුවය විඳීමේ හැකියාවක් තිබේ. ධ්‍යාන සුවය යනු ලෞකිකත්වය තුළින්ම ලබාගත හැකි අති බලවත් සුවයක් මිස ලෝකෝත්තර නිවන් සුවය නම් නොවේ.

බුදුපියාණන් විසින් දේශණා කර වදාරණ ලද පවිත්‍ර බුද්ධ ධර්මයේ සෑම තැනකම "සං" යන පදය විවිධාකාරයෙන් භාවිතා කර ඇත. ඒ යුගයේදී ධර්මය පිළිබඳව තේරුමක් ඇති කාටත් "සං"යනු කුමක්ද, කුමන අර්ථයකින් යොදා ගත්තාද යන්න පහසුවෙන් ම වැටහුණු බව එදා භාවිත කළ බොහෝමයක් ධර්ම පාඨවලින් අදටත් අපට විග්‍රහ කර පෙන්වා දිය හැකිය. එදා අස්සජී මහඅරහතුන්වහන්සේ උපතිස්ස පිරිවැජියාට, (පසුව සැරියුත් මහඅරහතුන්ට) දේශණා කර පෙන්වා දුන්නේ "සං" පිළිබඳවම පමණි. එදා පැවැත් වූ දේශණාව සංදේශණාවකි.

"යේ ධම්මා හේතු පභවා
තේ සං හේතුං තථාගතෝ ආහ
තේ සං චයෝ නිරෝධෝ
ඒවං වාදී මහා සමනෝ"

පද හතරකට සාරාංශ කර පෙළ දහමේ මේ ආකාරයෙන් සටහන් කර තිබුණත් අස්සජී මහඅරහතුන්වහන්සේ උපතිස්ස පිරිවැජියාට කෙටියෙන් හෝ එදා සංදේශණාවක් පවත්වා තිබේ. හේතුඵල ධර්මයට අනුව "සං" උපදින ආකාරය විස්තර කර දී, චිත්තසංථානයේ ගැබ්වෙන "සං" නිරෝධ කරගැනීමට නිවැරදි මාර්ගය ද පෙන්නා දී, විස්තර කරන ලද්දේ, ඒ මහා ශ්‍රමණයන් වහන්සේ දේශණා කර පෙන්වා වදාරණ මුළු ධම්ම පරියායම "සං" පිළිබඳව හා "සං" නිරෝධ කිරීම පිළිබඳව විග්‍රහ කරන දේශණාවක් බවයි. මේ සංදේශණාව ශ්‍රවණය කිරීමෙන්ම උපතිස්ස පරිබ්‍රාජකතුමා එදා සෝවාන් මාර්ග ඵලයට පත් වූහ.

"තේ සං හේතුං තථාගතෝ ආහ
තේ සං චයෝ නිරෝධෝ"

යන මේ "සං" විග්‍රහය තේරුම් ගැනීම මුළු බුද්ධ ධර්මයත් තේරුම් ගැනීම හා සමාන වේ. අදටත් ප්‍රඥාවන්ත කෙනෙකුට මාර්ග ඵලයකට පත් වීමට "සං" දේශණාව නියත වශයෙන්ම උපකාර වේ.

අද අර්ථ ධර්ම යටපත් වී යෑම නිසා "සං" උත්පාද වන ආකාරය පෙන්වා වදාළ පටිච්චසමුප්පාද ධර්මයද යටපත් වී ඇත. අද පටිච්චසමුප්පාද ධර්මය යනු පදවැල් කිහිපයක් පමණි. එදා පටිච්චසමුප්පාද ධර්මය තේරුම් ගත නොහැකිව එහි ඇතුළත් අර්ථ, ධර්ම, නිරුක්ති විග්‍රහ කර ගත නොහැකිව තිපරිවට්ටයම පෙන්වා දිය නොහැකි වූ බුද්ධඝෝෂ හාමුදුරුවෝ පටිච්චසමුප්පාද ධර්මය තේරුම් කිරීමට උත්සාහ ගෙන අවසානයේ, බොහෝම වෙහෙසට පත් වී අසාර්ථක වූ බව ප්‍රකාශ කර ඇත. "මේ පටිච්චසමුප්පාද ධර්මය නම් පරක් තෙරක් නැති මහ මුහුදක් වාගේයි, මම මේක තේරුම් කරගන්න ගිහිල්ල මහ මුහුදේ අතරමං වූ කෙනෙකු බවට ම පත් වුණා" යනුවෙන් බුද්ධඝෝෂ හාමුදුරුවෝ ම පවසා ඇත.

"අනේක ජාති සංසාරං
සංදා, විස්සං අනිබ්බි සං
ගහකාරකං ගවේ සං තෝ
දුක්බා ජාති පුනප්පුනං
ගහකාරක දිට්ඨෝසී
පුනගේ හං නකාහසී
සබ්බා තේ ඵාසුකා හග්ගා
ගහ කුටං විසං ඛිතං
විසංකාර ගතං චිත්තං
තණ්හානං ඛය මජ්ඣගා"

අපේ ගෝතම බුදුපියාණන්වහන්සේ බුද්ධත්වයට පත් වී ප්‍රකාශ කර වදාළ උදාන පාඨයක් වශයෙන් මේ ප්‍රකාශය අද කවුරුත් හඳුන්වයි.

මේ ගාථාවේ "සං" යන පදය හත් අවස්ථාවකම භාවිතා වී තිබේ. මුල්ම පේළියේ විස්තර වන්නේ ''එකතු කිරීම'' සාරයි යනුවෙන් නිගමනය කර අනේක විධ වූ ජාති, අනන්ත අප්‍රමාණ දේ එකතු කර, හදාගත් මේ හේතුඵල පරම්පරාව සාරයි යනුවෙන් නිගමනය කර මේ ගමන යෑමයි. සංසාර මඟ යනු මෙයයි. "සං" පිළිබඳව නිවැරදි ලෙසින් අසා තේරුම් ගෙන, "සං" දැන ගැනීමෙන් (සංදා) මේ එකතු කිරීමේ නියත ක්‍රියාකලාපය අවබෝධ කරගත් පසු "සං" උපදවා ගැනීමෙන් වෙන් වී, (විස්සං) වැළකී, සංවර වී, සංසිඳවා, අලුතින් "සං" බිහි කිරීමට උපකාර වූ මුල් ගළවා දමා (නිබ්බිසං), මේ (ගත) ගේ සාදන අයිතිකරුවා පිළිබඳවත් නිවැරදි අවබෝධයක් ලබා ගත් පසු, නැවත නැවතත් දුකට පත් වීමට මුල් වූ හේතුව (ජාති) උපත බවම තේරුම් ගෙන චතු අරිය සත්‍යයන්ම අවබෝධ කර ගැනීමෙන් සියලු ආකාර වූ සංඛාර පැවැත්වීමෙන් තොර වී, (විසංඛාර ගතං චිත්තං), පංචස්කන්ධය එකතු කරමින් ගෙයක් නිර්මාණය කිරීමේ ක්‍රියාවලියෙන්ද වෙන් වී (ගහකුටං විසං ඛිතං) ඛීණා ජාති යන උතුම් අරහත් තත්ත්වයට පත්වන්නට උපකාර වූ තණ්හාවෙන් හා මදයෙන් මිදී නිදහස් වුණෙමි" යනු ඉහත ගාථාවල අර්ථයයි. මෙහිදීද සංදේශණාව විග්‍රහ කර ඇත.

මේ අනුව "සං" දේශණාව තේරුම් ගත් කෙනෙකුට මේ ගාථාවෙන් නිවන් දැකීමට උපකාර වූ නිවැරදි මඟ පෙන්වා දීමක් කර ඇති බවත් තේරුම් ගත හැකියි. "සං" තේරුම් නොගත් කෙනෙක් සංසාරේ අතරමංවීම හැර වෙනත් මඟක් හෝ ගැළවීමක් හෝ නොදකී. මේ හේතුව නිසා අතීත සංසාරයක් අර්ථ දක්වා ඇත.

තිරිසං සතුන් යනුවෙන් අපි සත්ත්ව කොට්ඨාශයක් නම් කරමු. තිරිසං යන්නෙහි "සං" කොටස් තුනම එනම් රාග, ද්වේෂ, මෝහ කොටස් තුනම ක්‍රියාත්මක වේ. එවැනි උපතක් බුද්ධ භාෂිතයේ තිරිසං ලෙස නම් කර විග්‍රහ කර ඇත. ද්වේෂය යන දෙවන කොටසෙන් වෙන් වූ අය දෙවියන් ලෙස සැළකේ. (ද්+වි) "ද්" යනු ද්වේෂය, "වි" යනු වෙන්වූ යන අර්ථයයි. දෙවියන්ට රාගය හා මෝහය කොටස් දෙක පමණක් ඇත. ද්වේෂයෙන් වෙන් වූ නිසා දෙවි බවට පත් විය. බ්‍රහ්මයින් රාග, ද්වේෂ කොටස් දෙකෙන්ම

වෙන් වූ අයයි. නමුත් මෝහයේ මුල් තවමත් පවතී. රාග, ද්වේෂ, මෝහ සහමුලින්ම සිඳ දැමූ, මුල් ගළවා දැමූ උත්තමයා භව උදුරා දැමූ (භව - උද්ධ) බුද්ධ තත්ත්වයට පත් වූ මුණිවරයායි.

ත්‍රිපිටක ධර්මයේ සඳහන් බොහෝමයක් වැදගත් සූත්‍ර ධර්මයන් සියල්ලෙහිම සංදේශණාව සම්පූර්ණයෙන්ම හෝ "සං" විග්‍රහයට අදාළ වූ කොටස් හෝ දේශණා කළ දේශණාවෝයි. මුළු සංයුක්ත නිකායේම විග්‍රහ වන්නේ "සං" උක්ත වන ආකාරයයි. එනම් හේතුඵල පරම්පරාවක් දිගින් දිගටම පවත්වා ගෙන යෑමට උපකාර වන එකතු කිරීමේ, රැස් කිරීමේ, උපාදානය කර ගැනීමේ ක්‍රියාවලියත්, සංවර වී, සංසිඳවා, සම්මා තත්ත්වයට පත් වීමට උපකාර කරගත හැකි උපදේශය එනම්, "සං" උක්තවීම පිළිබඳවත්ය.

මෙතෙක් කාලයක් තුළ "සං" යන පදයේ අර්ථ, ධර්ම, නිරුක්ති හා පටිභාන ධර්මයන් යටපත් වී වැසී තිබුණද අද වන විට මේ සියලුම ධර්ම කරුණු පිළිබඳව යථාපරිදි දේශණා කර සංදේශණාවක් කිරීමට හැකි වීම "පුබ්බේ අනනුස්සුතේසු ධම්මේ " යනුවෙන් බුදුපියාණන් දේශණා කර පෙන් වූ ධර්මතාවය ම නැවතත් මතුවීමකි.

මේ අනුව සෑම කෙනෙක්ම සංසාරය යනු කුමක්ද? සංඛාර කිරීම යනු කුමක්ද? සංතෝෂ වීම, සම්බන්ධ වීම ලෙස අප කරන ක්‍රියාවල තේරුම කුමක්ද? සංතාපයට, සංවේගයට, සංවේදනාවට, දුකට හේතුව කුමක්ද? යන මූලික කරුණු තේරුම් ගැනීමෙන් අප අපම එකතු කර ගත්, රැස් කර ගත්, උපාදානය කර ගත් දේ මිස වෙන අර්ථයක්, හරයක් ඇති දෙයක් ජීවත් වීමෙහි නැති බව තේරුම් ගත හැකි වේ.

කවුරුනුත් අසා ඇති "සං" යන පදය බහුල වශයෙන් ඇතුළත් ගාථා තුනක් පහත දැක්වේ.

"සං සාර සාරෝස විනීත ණී සං
සං ණීත සාතං සුවිසාර ධී සං
සං ධීරකං සොණ්ණ තනු පලා සං
සං ලාප දේසිං පණමේ හිසා සං

සං සාහිගං කේවල මෝහ නා සං
සං නාහකං මාර රණේ විසේ සං
සං සේවිතං දාසි මුදාර හා සං
සං හාර ධම්මං පණමේ සදා සං

සං දාසගං නාසිත පාප නා සං
සං නාප ධංසිං හත සෝර පා සං
සං පාර ගාමිං සුවිසාර වා සං
සං වාර සංසං පණමේ රසා සං"

දුටුගැමුණු මහ රජතුමා එදා ස්වර්ණමාලී මහ සෑ රඳුන් ගොඩ නඟන අවස්ථාවේ, මෙහි සඳහන් ගාථා තුන රන්පතක ලියා චෛත්‍යරාජයාගේ ගර්භයෙහි නිදන් කළ බව

ප්‍රකට කරුණකි. එසේම දළදා සමිඳුන් අතීතයේ වැඩ සිටි සෑම දළදා මාළිගාවකමත් මෙම ගාථා තුන සටහන් කර ලියා තිබූ බවද පෙනේ. අදද මහනුවර දළදා මාළිගාවේ මේ ගාථාතුන ම ලියා දක්වා ඇත.

නිවන් දැකීමට උපකාර වන නිවැරදි බුද්ධ ධර්මය භාවිතා කළ මුල්ම අනුරාධපුර යුගයේදී, සංදේශණාව හා "සං" විග්‍රහය කාටත් තේරුම් ගත හැකි පරිදි, සරළ බසින් ගාථා වලට නගා කටපාඩම් කරගත් බවත්, එහි තේරුම දැන නිවනට උපකාර කරගත් බවත් මේ ගාථාවලින් පැහැදිළි වේ. චුල්ලහත්ථිපදෝපම සූත්‍රයෙන් බුදුපියාණන් දේශණා කර පෙන්වා වදාළ "සං" ඥාණ පද හතර පදනම් කරගත් "සං" දේශණාවම එදා මිහිඳු හිමියන්ද අනුරපුරවාසීන්ට මුළින්ම දේශණා කළේ, මෙහි ඇති වැදගත්කම නිසාමය. සංදේශණාවෙහි පෙන්වා වදාළ "සංදස්සේති, සමාදපේති, සමුත්තේජේති, සංපහංසේති" යන ඥාණ පද හතර ආශ්‍රයෙන් ම කාටත් තේරුම්ගත හැකි පරිදි සකස් කරන ලද මෙම ගාථා තුනෙන්ද සංදේශණාවක් ම ඉදිරිපත් කර ඇත. මෙම ගාථාවල "සං" යන පදය මල්මාලයකට අමුණා, පෙළ ගසා, සකස් කරන්නාක් මෙන් "සං" යන පදය විසි හතර අවස්ථාවකදීම අර්ථ විසි හතරකින්ම භාවිතා කර ඇත. "සං" යන පදයේ අර්ථය එකතු කිරීම, එකතු කරගත් දේ, රැස් කිරීම, රැස් කරගත් දේ, උපාදානය කර ගැනීම, උපාදානය කරගත් දේ, අස් කිරීම මෙන්ම අස් කිරීමේ ක්‍රියාවලිය හා හිස් කිරීම, හිස් කිරීමෙන් ලබන නිවන් සුවයද පෙන්වා වදාළ ධර්ම විග්‍රහයකි. මෙම ගාථාවල එන ගැඹුරු අර්ථය පදපරම පුද්ගලයෙකුට පහසුවෙන් තේරුම් ගත නොහැකිය.

අදත් විවිධ සන්නිවේදන මාධ්‍යයන්ගෙන්, ගුවන් විදුලියෙන් දිනපතාම මෙම ගාථා ගායනයෙන් ඇසෙන ශබ්ද රසයක් විඳ ගන්නා නමුත්, එහි ඇති ධර්ම රසය, අර්ථ රසය හෝ නිරුක්තීන් දැන ඒවා ගායනා කරනවා යැයි කිව නොහැකියි. මේ ගාථා තුන නිවන් මඟට නිවැරදිවම පණ පිහිටුවා වදාළ උතුම් "සං" දේශණාවකි.

මේ ගාථා තුනෙන් විග්‍රහ කර පෙන්වා දක්වා ඇත්තේ පිරිසිදු නිවන් මඟයි. නිවන් මඟට පණ පිහිටුවීමකි. කම්මල්කරුවෙකු ආයුධයක් පණ පොවා, මුවහත් කරන්නාක් මෙන් නිවන් මඟ පෙන්වා දීමක් මෙහි විස්තර කර ඇත. ඒ නිසාම මෙම ගාථා තුනෙන් ම අග පේළිවල දැක් වූ "පණ" යනුවෙන් සටහන් කළ පදය කෙරේ අවධානය යොමු කළ යුතු වේ.

1. "පණ" මේ හි සා සං
2. "පණ" මේ සදා සං
3. "පණ" මේ රසා සං

ධම්මචක්කපවත්වන දේශණාවේ සඳහන් "පණ" පිහිටුවීමත් සමඟම මේ "පණ" පිහිටු වීමත් සසඳා බැලිය යුතුයි.

1. ඉදං බෝ "පණ" භික්ඛවේ දුක්ඛං අරිය සච්චං
2. ඉදං බෝ "පණ" භික්ඛවේ දුක්ඛ සමුදයං අරිය සච්චං
3. ඉදං බෝ "පණ" භික්ඛවේ දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා අරිය සච්චං

ආදී වශයෙන් එහිදී කරන ලද නිවන් මඟ පණ පිහිටුවීම එදා මෙන්ම අදටත්

තේරුම් ගෙන "සං" දේශණාව තුළින් ම නිවන් අවබෝධ කරගත හැකි බව කාටත් තේරුම් ගත හැකියි. මෙම ගාථා තුනෙහි සාරාංශය වශයෙන් ගත් කළ පළමු ගාථාවෙන් ප්‍රකාශ වන්නේ, භව උදුරා දමන්නට උපකාර වන "පණමේ භිසා සං" යන  බුද්ධ ගුණයත්, දෙවන ගාථාවෙන් "සංභාර ධම්මං" යන පටිච්චසමුප්පාද ධර්මයේ ධම්ම ගුණය ප්‍රකාශ කිරීමත්, තුන්වන ගාථාවෙන් "සං" ගසා බිඳ හැර, සංඝ තත්ත්වයට පණ පිහිටුවා, අරහත් තත්ත්වයට පත්වන්නට උපකාර වන සංවර ගුණයත් පෙන්වා දීමකි. මේ අනුව "සං" දූන, "සං" දූක සංවර වී, සංසිඳුවා, සම්මා තත්ත්වයට පත් වන්නට සියලු දෙනාම උත්සාහ ගත යුතුයි.

කුමන හෝ තත්ත්වයෙන් පෘථග්ජන සිතක් ක්‍රියාත්මක වන තුරාවට චිත්තසංථානයේ කර්ම බීජ රැස්වී පවත්නා නිසා සංසාර ගමනද නියතයි. ඒ ඒ පුද්ගලයා ම තම කැමැත්තෙන් යන මේ සංසාර ගමන නිමා කිරීමට බුදුපියාණන් සංදේශණාව ඉදිරිපත් කර වදාළහ. අද යටපත් වී ඇති සංදස්සේති, සමාදපේති, සමුත්තේජේති, සංපහංසේති යන සංදේශණාවේ ඇතුළත් ඥාණ පද හතරම තේරුම් ගත් කෙනෙකුට බුද්ධ දේශණාවේ වදාළ "සංවර, සංසිඳීම, සම්මා" යන ත්‍රිවිධ ශික්ඛාව දූන අනුගමනය කර, නිවන් සාක්ෂාත් කර ගත හැකි වේ. ඒ වෙනුවෙන් බුද්ධ දේශණාවෙන් ම කරුණු ගෙන හැර පාමින් කළ මේ ධර්ම විග්‍රහයේ "සං" දේශණාව මෙයින් අවසන් කෙරේ.

* * * * * * * * * *

## ද්වතාව

සෑම සංකල්පයකම, සෑම සංඛතයකම නියත වශයෙන්ම ද්වතාවක්ද පවතී. ඇතිවීම, නැතිවීම මෙහි මුලයි. "ඇත නැත" යනුද මෙයම අර්ථ දක්වීමකි. සංඛතයක් යනු එකතු කර, සකස් කරගත් දෙයක් යන අදහසයි. සංකල්පනාවක් යනු කාලය පීරා, එකතු කර හිතින්ම සාදාගත් දෙයක් යන තේරුම වේ. අටලෝ දහමම සංඛතයක් වාගේම ද්වතාවක් සහිත සංකල්ප හතරක අන්තයන් අටකි. මෙවන් ද්වතාවක් බිහිවීමට මූලික හේතුව මීට පෙරද පෙන්වා දුන් පරිදිම "මම" යන මධ්‍ය ලක්ෂ්‍යයක් ඇතිව, මමත්වයෙන් කටයුතු කිරීමයි. මම යන සංකල්පය මැද පිහිටුවා මැනීමෙන්, දෙපැත්තෙන් එක පැත්තක් අල්ලා ගනී, උපාදානය කර ගනී. එසේ නැතිනම් එක පැත්තක් මඟ හැර පැන දුවයි. සැප දුක, ලාභ අලාභ, රූපී අරූපී, මම වෙමි, මම නොවෙමි, අපි, අපේ නොවේ ආදී සියලු සංකල්පවලට හේතුව ද්වතාවක් පැවතීමයි. මම මැද ඉන්නා තුරාවට ලෝක ව්‍යවහාරයේ පවතින හැම සංකල්පයකටම, සංඛතයකටම දෙපැත්තක් ඇත.

විඤ්ඤාණයෙන් කටයුතු කරන හැම සත්ත්වයෙක්ම, පුද්ගලයෙක්ම නිරන්තරයෙන්ම උත්සාහ ගන්නේ මේ දෙපැත්තෙන් එක පැත්තක් අල්ලා ගැනීමටයි. එක පැත්තක් කරා නිරන්තරයෙන්ම ගමන් කිරීමටයි. නමුත් ලෝක ධර්මතාවය, ඒ කිසිම

දෙයක් එකම ආකාරයට දිගටම නොපැවතීමයි. ඒ හැම දෙයක්ම අන්‍යතාභාවයට පත්වීම නියත ධර්ම ස්වභාවය බව වටහා ගත යුතුයි.

නිරන්තරයෙන්ම රිය ගමනක යෙදෙන මේ සංසාර පැවැත්මේ එකම ආකාරයක පවතින, වෙනස් නොවන, විපරිණාමයට පත්නොවන, ගෙවී විනාශ වී නොයන, කිසිම දෙයක්, කිසිම තැනක්, කිසිම කෙනෙක්, කවදාවත්, කාටවත්, දැක ගැනීමට නොහැකි හේතුවත් ඒ හැම දෙයක්ම චිත්ත ශක්තියෙන් හදාගත්, හිතින්ම එකතු කර හදාගත්, සංඛතයන් වන නිසයි. චිත්ත ශක්තිය ගෙවී යාමත් සමඟම ඒ සියල්ල ද ගෙවී යයි.

නිවන, නිවීම යන නිදහස පමණක් සංඛතයක් නොවන එකම අසංඛත ධර්මයයි සිතින්ම හදා ගත්, එකතු කරගත් සියල්ලෙන්ම මිදී නිදහස් වීම නිවනයි. නිවනේ අල්ලා ගැනීමට හෝ අත් හැරීමට හෝ කිසිවක් නැත. පැවතීමට, ප්‍රතිෂ්ඨාපනයට, පිහිටු වීමට බිමක්ද නැත. එසේ නම් නිවන යනු තම සිතින්ම, චිත්ත ශක්තියෙන්ම තමන්ම එකතු කර හදා ගත් සියලු සංඛතයන්ගෙන් පූර්ණ ලෙස මිදී නිදහස් වීමයි.

මේ නිසා සියලු සංඛතවලට උරුම වූ මූලික ලක්ෂණ කිහිපයක් පිළිබඳ නිවැරදි අවබෝධයක් ලබා ගැනීම නිවන් අවබෝධයට ඉමහත් රුකුලක් වනු ඇත.

හැම සංඛතයකටම ද්වතාවක් පවතී යන්න පළමුවැනි ලක්ෂණයයි. බොහෝ විට එක පැත්තක් පමණක් හැම තැනකදීම ප්‍රකාශ වේ. අනිත් පැත්තත් විමසා, සොයා දැන, තේරුම් ගැනීම ද්වතාවය පිළිබඳ යථාවබෝධයක් ලැබීමයි. අත්ථකිලමතානුයෝගයත්, කාමසුඛල්ලිකානුයෝගයත් අන්ත දෙකකි. මෙය සමස්ත පැවැත්මේ ද්වතාව පිළිබඳව බුදුපියාණන් පැහැදිළි කර දුන් බුද්ධ භාෂිතයයි. මේ අන්ත දෙකේම නිවනක් නොපවතී.

නිවනට, නිවීමට, නිදහස් වීමට නම් "මජ්ඣිමා පටිපදාව" අනුගමනය කළ යුතු යැයි බුදුපියාණන් පැහැදිළිවම පෙන්වා වදාළහ. නමුත් ද්වතාව තේරුම් නොගෙන නම් කිසිම කෙනෙකුට, කිසිමදාක මජ්ඣිමා ප්‍රතිපදාව යනු කුමක්ද යන්නත් නිවැරදිව තේරුම් ගත නොහැකියි. අද බොහෝ අය මජ්ඣිමා ප්‍රතිපදාව අනුගමනය කිරීමෙන් යම්කිසි ප්‍රතිපත්තියක්, මැද ප්‍රතිපත්තියක් අල්ලා ගැනීමට කටයුතු කරති. ඒ අල්ලා ගත් මැදත් මධ්‍යම ප්‍රතිපත්තියකි. සංඛතයකි. එය ද්වතාවක් ඇති සංඛතයක්ද නැද්ද යන්න ප්‍රඥාවෙන් දැක ගැනීම අවශ්‍යයි. එයද සකස් කරගත් දෙයක් නම්, කෙස් ගහක හෝ දෙයක් ලෝකය තුළින් අල්ලා ගත් මැදක් නම් එතනද නිවනක් නොවේ. ඒ නිසා මජ්ඣිමා ප්‍රතිපදා යනුවෙන් බුදුපියාණන්වහන්සේ ප්‍රකාශ කළ වචනවලින් අදහස් කළේ කුමක්ද යන්න නිවැරදිව තේරුම් ගැනීමට ද්වතාව තේරුම් ගැනීම අවශ්‍ය වේ. කෙස් ගහක හෝ යමක් ලෝකය තුළින් අල්ලා ගෙන නම් එතැන ද්වතාවක් පවතී. එය සංඛතයකි. එතැන නිවනක් නැත. නිවන යනු දෙපැත්තම සම්පූර්ණ ලෙසින් අත්හැර, මැදිනුත් මිදී නිදහස් වීමයි. මජ්ඣිමා ප්‍රතිපදාව යනු මෙයයි.

ජීවි අජීවි, රූපී අරූපී සෑම සංඛතයකම ද්වතාවක් පවතී. මේ ද්වතාවය, පුද්ගලයෙකුගේ, සත්ත්වයෙකුගේ සිතකම පවතී. විඤ්ඤාණ තත්ත්වයෙන් සිත ක්‍රියාත්මක

වන තුරාවට සෑම දෙයකම ප්‍රිය අප්‍රිය යන ද්වතාව විද්‍යාමාන වේ.

මම යන සංකල්පය මැද ලක්ෂය කොට ලෝකය මනින්නේ දෙපැත්තක් දකින නිසයි. ඒ ඉන් එක් පැත්තක් අල්ලා ගැනීමටයි. එක පැත්තකට ගමන් කිරීමටයි. මම වෙමි, මම නොවෙමි යනුවෙන් දෙපැත්තෙන් එක පැත්තකට සීමා මායිම් පනවා ඉවත් කරන්නේත්, අනෙක් පැත්ත අල්ලා ගන්නේත් මේ ධර්මතාව නිසයි. ලෝභ අලෝභ, ද්වේෂ අද්වේෂ, මෝහ අමෝහ යන සියල්ලම මම වෙමි, මම නොවෙමි යන ද්වතා සංකල්පයට අනුවම තේරුම් ගත යුතු අන්ත දෙකක්ම විග්‍රහ කළ හැකි ධර්මතාවන්ය. ද්වතාව තේරුම් නොගත් අය බොහෝමයක් දෙනා අද්වේෂ, අලෝභ, අමෝහ යනු නිවනට උපකාර වන සංඛාර ලෙස නොදැනීම නිසාම තේරුම් කරති. නිවනට හේතු වන්නේ ලෝභක්ඛය, ද්වේෂක්ඛය, මෝහක්ඛය යන එකතු කරගත් දේ ඛය කර, සළාහැර සම්පූර්ණ කිරීමයි. ලෝභ, අලෝභ ආදී දෙකම ඛය කර, සළාහැර, නිදහස් වීම නිවනයි. ද්වතාව තුළින්ම මෙය නිවැරදිව දැක ගත යුතුයි.

විඤ්ඤාණ තත්ත්වයෙන් සිතක් ක්‍රියාත්මක වන තුරුම ලෝභ, අලෝභ, අතරේ හිත දුවයි. මේ දෙපැත්තෙන්ම පූර්ණ ලෙසින්ම නිදහස් වීමට නම් විඤ්ඤාණ තත්ත්වයෙන් ද හිත නිදහස් කරගත යුතු වේ. විඤ්ඤාණ තත්ත්වයෙන් හිත නිදහස් වූ පසුව මඤ්ඤතාවයෙන්ද, මානයෙන්ද, මැනීමෙන්ද, මමත්වයෙන්ද සිත නිදහස් වී පිරිසිදු චිත්ත තත්ත්වයට සිත පත් වේ.

විඤ්ඤාණය නිරන්තරයෙන්ම උත්සාහ ගන්නේ දෙපැත්තෙන් එක පැත්තක් අල්ලා ගැනීමටයි. ප්‍රිය අප්‍රිය යන දෙපැත්තක් දකින තුරාවට ප්‍රිය පැත්තම අල්ලා ගැනීමට උත්සාහ ගනී. ප්‍රිය දේ සොයමින්, අප්‍රිය දේ ඉවත් කර, අප්‍රිය දෙයින් පළා යෑමට විඤ්ඤාණය හැම විටම උත්සාහ දරයි. නමුත් කිසිම දිනක ප්‍රිය දේ දිගටම ප්‍රිය ලෙසින්ම පවත්වා ගත නොහැකියි. කැමැත්ත පරිදි ප්‍රිය ආකාරයට දිගටම පවතින ලෝකයක් හෝ ධර්මතාවක් නැත. ඊට හේතුව එය සංඛතයක් නිසාත්, ද්වතාවක් අතර ගමන් කරන නිසාත්ය.

ද්වතාවත්, ද්වතාව අතර නිරන්තරවම සිදුවන ගමනත් නිසා ප්‍රිය මනාප අන්තය අල්ලා ගැනීමට විඤ්ඤාණය දරණ උත්සාහය සංසාර ගමනයි. මේ සියලු තත්ත්වයන්, ගති ලක්ෂණයන්, සත්ත්වයෙකුගේ, පුද්ගලයෙකුගේ හිතකම පහළ වෙන දේ මිස, මේ පැවැත්මේ වෙන තේරුම් ගත නොහැකි අරුමයක්ද නැත. සිතින්ම රෝද ගැසීමත්, සිතින්ම දෙකෙළවර අතරේ ගමන් කිරීමත් ඉන් එක් කෙළවරක් අල්ලා ගැනීමට උත්සාහ ගැනීමත් නිසා තණ්හා ඇති වී, තැනක හා වී, උපාදානය කර ගැනීමත් මේ ආකාරයට සිතින්ම සිදු කරනු ලබයි.

සෑම සංඛතයකම ද්වතාවක් පැවතීමත්, විඤ්ඤාණය ප්‍රිය මනාප කෙළවර අල්ලා ගැනීමට දරණ උත්සාහයත් නිසාම සෑම පෘථග්ජන සිතකම නිරන්තවම බලාපොරොත්තු බිහිවේ. එකතු කරගැනීමට යම් දෙයකුත් දකී. මේ ආකාරයෙන් සිතින්ම සකස් කරගත් ද්වතාව නිසාම මාන, දිට්ඨි, අවිද්‍යා යන ලක්ෂණයන් තුනම විඤ්ඤාණයේ පහළ වේ.

සෑම සංඛතයකම ද්වතාවක් දකින නිසාම නිරන්තරයෙන්ම දෙකෙළවර අතරේ කරන ගමන නිසාම අන්‍යතාභාවයට පත්වීම සිතක පහළවන තවත් ලක්ෂණයකි. අන්‍යතාභාවය යනු පැවති තත්ත්වයෙන් වෙනත් තත්ත්වයකට පත්වීමේ ස්වභාවයයි. පවතින තත්ත්වය "තථ" බව ලෙසත්, ඒ තත්ත්වය ඊට වෙනස් තත්ත්වයකට පත්වීම අන්‍යතාභාවයට පත්වීම ලෙසත් බුද්ධ භාෂිතයේ පෙන්වා දී ඇත. තථ අන්‍යතා යනුද ද්වතාවක්ම වේ.

සෑම සංඛතයක්ම සිතෙන්ම එකතු කර (සං) හදාගත් දෙයක් වන නිසාත්, විඤ්ඤාණයේ නිරතුරුවම වෙනස් තත්ත්වයකට පත්වීමේ ගති ලක්ෂණය නිසාත්, එසේ සිතින් හදාගත් සංඛතයක් ගෙවී, විපරිණාමයට පත්වී, වෙනස් වන නිසාත් අන්‍යතාභාවයට පත්වීම සිදු වේ. මෙම සිත හා සංඛතය එකම ආකාරයට සමාන්තරව, එකම රටාවකට අන්‍යතාභාවයට පත්වීමද සිදු නොවේ. මේ හේතුව නිසාම මෙතරම් මිනිසුන් ජීවත්වන ලෝකයේ හැම අතින්ම එක හා සමාන මිනිස්සු දෙදෙනෙක් හෝ, සොයා ගැනීමට නොහැකි වීමට හේතුව මෙම ධර්මතාව බව වටහා ගත යුතුයි.

අන්‍යතාභාවයත් සමඟම තවත් නියත ධර්මතාවක් පවතී. එය අනියතභාවයයි. අනියත යනු ස්ථිර ලෙසම, නියත ලෙසම පවතින දෙයක් නැත යන අර්ථයයි. ලොව බිහි වූ සියලු ම දේ, සියලුම අය, සියලුම තැන් සංඛත ලෙස සිතින්ම එකතු කර සාදා ගත් දේ නිසා ඒවායේ නියත ලක්ෂණය සදාකාලිකව නොපැවතී, විනාශ වී යන ලක්ෂණයයි. එය අනියතභාවයයි. අනිත්‍ය යනු මේ අනියත ස්වභාවයයි.

අනිච්චතාවය යනුද ධර්මතාවකි. ශබ්ද ස්වරයෙන් නම් අනිච්ච යන පදය අනිත්‍ය භව, අන්‍යතාභාවය යන පද අසලින්ම යන පදයකි. නමුත් අනිච්චතාවය යන පදය මීට වඩා හාත්පසින්ම වෙනත් අර්ථයක් දෙන පදයකි. මේ පදවල ද්වතාව ගැන සළකා බැලූවිට හැර වෙන කිසිම ආකාරයකින් මේ පදවල ධර්ම අර්ථයේ වෙනස්කම් දැක ගැනීමත් පහසු නොවේ.

තථ අන්‍යතා, නියත අනියත, ඉච්ච අනිච්ච යන පදවල තේරුම සහ ද්වතාව නිවැරදිව තේරුම් ගැනීමෙන් මේවායින් ත්‍රිලක්ඛණයට අයිතිවන  පද වෙන්කර තේරුම් බේරුම් කරගැනීමත් පහසුය.

"ඉච්ච" යනු කැමැත්තයි, බුද්ධ භාෂිතයේ ඉච්ච යන වචනය විවිධ තැන්වල නිතර භාවිතා කර ඇති වචනයකි. අල්ප+ඉච්ච (අල්පේච්ච), උද්ධ+ඉච්ච (උද්ධච්ච), කුක්කු+ඉච්ච (කුක්කුච්ච), අභි+ඉච්ච (අභිජ්ජා), අන්+ඉච්ච (අනිච්ච) මේ හැම තැනකම ඉච්ච යනු කැමැත්තයි. අනිච්ච යනු කැමති සේ පැවැත්විය නොහැකි, කැමති පරිදි සිදු නොවන යන තේරුමයි. කැමැත්තට විරුද්ධව සිදුවන සියල්ල අනිච්ච වේ. කැමැත්ත පරිදි, කැමැත්තට එකඟව සිදුවන සියල්ලම ඉච්ච වේ.

සෑම සංඛතයකම නියත ලක්ෂණය වූ අන්‍යතාභාවයට පත්වීම නිසාම හැම විටම

කෙනෙකු උත්සාහ ගන්නේ සංඛතයක එක කෙළවරක් අල්ලා ගැනීමටයි. සංඛතයක නියත ගති ලක්ෂණය තේරුම් නොගෙන ඒවායේ එල්ලීමට, ඒවා උපාදානය කර ගැනීමට දරණ උත්සාහය එසේ නැතිනම් සංඛතයක් කැමති පරිදි පැවැත්වීමට දරණ උත්සාහය කිසිම දවසක, කිසිම කෙනෙකුට, කිසිම විධියකින් තම කැමැත්තට අනුව පවත්වා ගැනීමට හැකියාවක් නැත. ඊට හේතුව, ඒ සියල්ලම චිත්ත ශක්තියෙන් සදාගත්, අන්‍යතාභාවයට පත්වෙන, විපරිණාමයට පත්වෙන සංඛත වීමයි. මේ අන්‍යතාභාවයට පත්වෙන යම් සංඛතයක්, තම කැමැත්තට විරුද්ධව වෙනස් වේ නම් ඒ සියල්ලම අනිච්චතාවය ලෙසින් ද පෙන්නුම් කළ හැකිය. නමුත් අන්‍යතාභාවයට හෝ අනියතභාවයට පත්වෙන සියලුම දේ දුකට හේතුවන දේ නොවේ. අන්‍යතාභාවයට පත්වීම නිසාත්, අනියතභාවයට පත්වීම නිසාත්, ඇතිවන ප්‍රතිඵලය ලෙසින් දුක සැප දෙකම අත්විඳින්නට හැකිකම ඇත. නමුත් ඉච්ච යන පදයේ විරුද්ධ පැත්ත වූ අනිච්ච යන තත්ත්වය නිතරම කැමැත්තට විරුද්ධ යන අර්ථය දෙන නිසා එතැනදී දුක නියත වශයෙන්ම උරුම වේ. වචනයේ පරිසමාප්ත අර්ථයෙන්ම "අනිච්ච" යනු කැමැත්ත පරිදි නොවන යන තේරුමයි.

## සුවාසුව දහසක් ධර්මස්කන්ධය

බුදුපියාණන් දේශණාකර වදාළ බුද්ධ ධර්මය සහමුලින්ම ද්වතාවක් පෙන්වා වදාළ දහමකි. මේ විශ්වය තුළ විද්‍යාමාන වන සියලුම සංඛාර හා සංකල්පනාවන් චිත්ත ශක්තියකින්, විඤ්ඤාණ ශක්තියකින් සාදා සකස්කරගත් දේ නිසා ඒ සියලු දේවලම දෙපැත්තක්ම ඇති බව බුදුපියාණන් පැහැදිළිවම දේශණාකර පෙන්වා වදාළහ. ලෝකයේ පවතින්නේ හරි හෝ වැරදි, හොඳ හෝ නරක, සැප හෝ දුක් ආදී වශයෙන් ද්වතාවයෙන් යුතු ධර්මයෝමයි. එක පැත්තක් හරි නිසා අනික් පැත්ත වැරදිය. හරි පැත්තක් පෙන්වා දෙන්නට නොහැකි නම් වැරදි පැත්තක්ද නැත. දවාලක් නැතිනම් රැයක්ද නැත. සංසාර ගමනක් නැතිනම් නිවනක් ද නැත. මෙය ඉතා සරළ ධර්මතාවකි. මේ ද්වතාවයි.

වරද, වැරැද්ද, වරදක් ලෙස පෙන්වාදීමත් එය නිවැරදිකර නිවැරදි මග පෙන්වාදීමත් බුදුපියාණන්වහන්සේ දේශණාකර පෙන්වා වදාළ සමස්ත ධර්මස්කන්ධයේම හරයයි. ප්‍රිය අප්‍රිය යැයි සෑම දේකම දෙපැත්තක් ඇත. ප්‍රිය දේ සොයා යෑම පෘථග්ජන පුද්ගලයින්ගේ නියත ස්වභාවයයි. අප්‍රිය දේ ඉවත් කර ඉන් වෙන්වී නිදහස් වීමට උත්සාහ දැරීමද පෘථග්ජන ගතියකි. මේ ආකාරයෙන් විශ්වයේ ඇති සෑම දේකම දෙපැත්තක්ම ඇති නිසා බුදුපියාණන් දේශණාකර වදාළ ධර්මයේද නිතරම දෙපැත්තක් ම පෙන්වා වදාළහ. මේ දෙපැත්ත නම් ද්වතාව නම් සුව දේ හා අසුව දේයි. සුව අසුව දහසක් දේ පෙන්වා දීම මුළු බුද්ධ ධර්මයේම හරය ලෙසින් කැටිකර පෙන්වා වදාළ සේක.

මේ සුව අසුව දහසක් දේ පෙන්වා වදාළ උතුම් බුද්ධ ධර්මයට යම් සීමාවක් පනවා මෙහි ඇත්තේ 84000ක් පමණ වූ ධර්මස්කන්ධය යැයි පෙන්වා දීම අටුවා ආචාරීන් දැරූ අසාර්ථක උත්සාහයකි. බුදුපියාණන් දේශණා කළ ධර්මය පන්සාළිස් වසරක් මුළුල්ලේ දේශණා කළ සියලුම ධර්මය සුව අසුව දහසක් ධර්මය බව නම් සහතික ඇත්තය. නමුත් එය 84000ක් නම් නොවේ. එය කෝටි ප්‍රකෝටි ගණනක් වූ වචනවලින් දේශණාකර වදාළ අසීමිත ධර්ම කණ්ඩයන්ගෙන් සමන්විතය. එය අසූහාර දහසකට සීමා කිරීම බුද්ධ ධර්මයට

කළ අපහාසයකි.

තරමක් හෝ විමසිලිමත්ව ත්‍රිපිටක ධර්මයේ එන ඕනෑම ධර්ම විග්‍රහයක් කියවන විට ඇත්තේ අනුපුබ්බ ශික්ඛා, අනුපුබ්බ කිරියා, අනුපුබ්බ පටිපදා යන තුන් කොටසකට අයත් දේ බවත් ඒ හැමතැනකදීම පෙන්වා දී ඇත්තේ සුව අසුව යන ද්වතාවය බවත් ඔබට තේරුම්ගත හැකි වෙනු ඇත. මෙලෙස දෙපැත්තක් විග්‍රහ නොකළ දෙපැත්තක් පෙන්වා නොදුන් සුව අසුව දෙපැත්තම විග්‍රහ නොකළ දෙයක් ඇත්නම් එය නිවන පමණි. එහි පෙන්වා දුන්නේ එක පැත්තක් පමණි. ඒ එය අසංඛත ධර්මයක් වූ එකම තත්ත්වය නිසයි.

පසු කාලෙක එකතු කර ලියා පළකළ හෝ වෙනස් කරන ලද හෝ බුද්ධ භාෂිතය යම් කෙනෙකුට සත්‍යය වශයෙන්ම බුද්ධ භාෂිතයක්ද, එසේ නැතිනම් එය වෙනස් කර පසුව ලියූ එකක්දැයි පරික්ෂාකළ යුතු නම් එහි සුව අසුව දෙපැත්තම පෙන්වා ඇද්දැයි පරීක්ෂාකර බැලීමෙන් පමණක්ම එය සහතික කර දැන ගත හැකිය. සුව අසුව දෙපැත්තම පෙන්වා ඇත්නම් එය බුද්ධ භාෂිතයකි. එසේ සුව අසුව දෙපැත්තක් විග්‍රහ කර නැතිනම් එය පසුව එක් කරගත් සම්මතයකි. බුද්ධ භාෂිතයක් නොවන දෙයකි.

බුද්ධඝෝෂ හාමුදුරුවෝ අකුරු වචන ගණන් බලා ත්‍රිපිටකයෙහි අඩංගුව ඇත්තේ අසූහාර දහසකැයි ප්‍රකාශ කළේ ඔහුගේ නොදැනුවත්කම නිසා මිස "පදපරම" නම් වූ පෘථග්ජන තත්ත්වය නිසා මිස වෙනත් කිසිවක් නිසා නොවේ.

සෑම සූත්‍රයකම, හැම ධර්ම පාඨයකම, අභිධර්ම පිටකයේ, විනය පිටකයේ පවා මේ සුව හා අසුව යන දෙපැත්තම මනාලෙස විග්‍රහ කර ඇත. අනුගමනය කළ යුතු පිළිවෙළ සුව දේ සුව ධර්මය ලෙසත්, අතහැරිය යුතු දේ අසුව අධර්මය ලෙසත් සෑම තැනකම පෙන්වා දී ඇත. හොඳ නරක, කළු සුදු, චාරිත්‍ර වාරිත්‍ර, සිරිත් විරිත්, මණසිකාර අමණසිකාර, මිත්‍යාදෘෂ්ඨි සම්මා දෘෂ්ඨි, සංඛත අසංඛත, කරණීය අකරණීය, ද්වේෂ අද්වේෂ, මෝහ අමෝහ, ලෝභ අලෝභ, අස්ස පස්ස, ලෝක අලෝක, විද්‍යා අවිද්‍යා, සෝක අසෝක, මර අමර, නිච්ච අනිච්ච, නාථ අනාථ ආදී වශයෙන් දහසක් කාරණාවල (අනන්ත අප්‍රමාණ දේ) සුව අසුව දෙපැත්තම පෙන්වා වදාළ ධර්මය සුව අසුව දහසක් ධර්මය ලෙසින් බුදුපියාණන් වහන්සේම නම් කළහ. නිවන් සුවය විමුක්ති සුවය අරමුණු කරගෙන දේශණා කරණ ලද උතුම් සුවාසු දහසක් ධර්මස්කන්ධය ආගමික සංකල්පවලට හරවා උතුම් බුද්ධ ධර්මය බුද්ධ ඇදහිල්ලක් බවට පත්කරන්නට ලියූ සමන්තපාසාදිකාව, විශුද්ධි මාර්ගය ආදී පොත් පෙළ ගුරුකොට එයම ගුරුතැන්හිලා සළකා ඊට පසුකාලීනව ලියූ බොහෝ දේ බෞද්ධ සාහිත්‍යය, බෞද්ධ සංස්කෘතිය මිස උතුම් බුද්ධ ධර්මය නොවන බවත් කවුරුත් ගැඹුරින් සිතා බලා තේරුම් ගැනීමට උත්සාහ ගත යුතුය.

* * * * * * * * * * *

බුද්ධ භාෂිතයෙහි සඳහන් අනිච්ච, දුක්ඛ, අනත්ථ යන පද ත්‍රිලක්ඛණයට අයත් වේ. බොහෝමයක් දෙනා නොදැනීම නිසාම තේරුම් ගැනීමට නොහැකිවීම නිසාම, මේ අනිච්ච යන බුද්ධ භාෂිතයේ එන පදය අනිත්‍යභාවය සමඟත් අනියතභාවය සමඟත් වැරදීමකින් පටලවාගෙන දිගින් දිගටම වැරදි ලෙසින්ම භාවිතා කරති.

අනාත්‍යතාභාවයට පත්වීමේදීත්, අනියතභාවයට පත්වීමේදීත් යන අවස්ථා දෙකේදීම කෙනෙකුට සැප මෙන්ම දුක යන දෙකටම පත්වීමට, අත්විඳීමට හැකියාව ඇත. හිසරදයක් සෑදුන කෙනෙකුට අනාත්‍යතාභාවයට පත්වීම යනු එය සනීප වීමයි. මෙහිදී අනියතභාවයට පත්වීම යනු පැවති හිසරදය ස්ථිර එකක්, නියත එකක් නොවන නිසා ඒ තත්ත්වය අවසන් වීමයි. එතැනදී ඒ පුද්ගලයාට අනාත්‍යතාභාවයට පත්වීමත්, අනියතභාවයට පත්වීමත් යන දෙකම දුක අවසන් වීමක් නිසා සැපට හේතු වේ. නමුත් අනිච්චතාවය යනු හැම විටම කැමැත්තට විරුද්ධව සිදුවේ යන අර්ථයයි. කැමැත්තට විරුද්ධව සිදුවන කිසිවකින් සැපක් බලාපොරොත්තු විය නොහැකියි. ලෝක ධර්මතාවය "සබ්බේ සංඛාරා අනිච්චාති", එකතු කර හදාගත් සියලු දේ කැමැත්තට විරුද්ධවම ක්‍රියාත්මක වීමේ ධර්මතාවයයි. නිතරම දුකට හේතු වන්නේ අනිච්චතාවයි. ඒ බව නිවැරදි ලෙසත් පැහැදිළි ලෙසත් තේරුම් නොගතහොත් ත්‍රිලක්ඛණය යනු කුමක්ද යන්නත් වටහා ගත නොහැකියි.

ද්වතාවය ලොව පවතින තුරු කෙනෙකුට හොඳ දේ තව කෙනෙකුට හොඳ නැත. කලකට හොඳ දේ තව කලකට නරකය. තැනකට හොඳ දේ තව තැනකට හොඳ නොවේ. මේ ගති ලක්ෂණ අනාත්‍යතාභාවය හා අනියතබව යන දෙකටම පොදුයි. නමුත් අනිච්චතාවය මීට වෙනස්ය. ඉච්චතාවය, කැමැත්ත මෙතැනදී මුල් වේ. කැමති සේ නොවන කැමති සේ නොලැබෙන යම් ධර්මතාවයක් වෙතොත් එය අනිච්චතාවයයි. එය නියත වශයෙන්ම දුකට මුල්වන ස්වභාවයකි. කැමති සේ සිදුනොවන කිසිවක් නිසා සැප බලාපොරොත්තු විය නොහැකියි. එයද  නියත ධර්මතාවයකි.

මෙතැනදී බොහෝම ඉවසීමෙන් යුතුව විමසා බලා තේරුම් ගත යුතු ධර්ම ස්වභාවයක් ලෙස "අනිච්ච" පිළිබඳව තේරුම් ගත යුතුයි. දුකට පත්වීමත් අනිච්චයි. සැප අවසන් වීමත් අනිච්චයි. මෙම ධර්මතා දෙකම කැමැත්තට විරුද්ධ නිසා දුකට මුල් වේ. එසේනම් අනිච්චතාවය යනු කැමති වූ දෙය කැමැත්ත පරිදි දිගටම පවත්වා ගැනීමට නොහැකි වීමයි. ඉච්ච අනිච්ච යන ද්වතාවය තේරුම් නොගෙන ත්‍රිලක්ඛණය තේරුම් ගත නොහැකි වන්නේ මේ නිසාමයි. ඉච්ච සේ සිදුවන සෑමදේම නියත වශයෙන්ම සැපට හේතුවේ. නමුත් මේ ලෝකයේ ධර්ම ස්වභාවය සියලු දේ ඉච්ච සේ දිගටම පවත්වා ගැනීමට නොහැකි වීමයි. දුකට මුල්වන හේතුව එයයි.

"ජීවිතං අනියතං මරණං නියතං" යන පාලි පාඨයද නිතර මරණ දැන්වීම්වල භාවිතා කරන පද වැලකි. මෙහි "අනියතං" ලෙස  දැක් වූ පාලි පදයෙහි සිංහල තේරුම අනිත්‍ය බවයි. නියතං යනු එහි විරුද්ධ පදයයි. "අනිච්ච" යන පදයේ විරුද්ධ පදය "ඉච්ච" යනුයි. මෙහි දැක්වූ "අනිච්ච" යන පදයත් "අනියතං" යන පදයත් පටලවාගෙන යොදා ගැනීම මේ වරදට මුලයි. අනිච්චය යනු කැමැත්ත මුල් කරගත් ධර්මතාවකි.

අනියතං අනිත්‍යයි යනු ස්ථිර ලෙස නොපවතී යන තේරුම දෙයි. එයද සත්‍ය ධර්මතාවකි. එහි තර්කයක් නැත. අනිත්‍ය නිසා ස්ථිරව නොපවතින දුක දැකීම, දුක ඇතිවීම හැමවිටම සිදු නොවේ. දුක් අවබෝධ කර ගැනීමට එය උපකාර නොවේ. ස්ථිරව නොපවතින බොහෝ දේ අනිත්‍ය නිසාම දුක නැතිවේ. සැප බිහිවේ. පිළිකා රෝගයකින් හෝ තද හිසරදයෙන් හෝ පෙළෙන්නෙකු එය අනිත්‍ය නිසාම ස්ථිර නොවන නිසාම එහි වෙනසක් කරගෙන සුවපත් වේ. එය ස්ථිර වූයේ නම් පමණක් දුක සදාකාලිකය. ලෙඩ රෝග, සතුරු කරදර හා බඩගින්න පවා ස්ථිර නොවන නිසාම අනිත්‍ය නිසාම ඒවා අවසන් වී සැප ඇති වේ. දුක අවසන් වේ. "අනිත්‍ය" යනු හැමවිටම දුක දැකිය හැකි ප්‍රකාශයක් නොවේ. එය සැප දුක දෙකටම පොදු ප්‍රකාශයකි.

නමුත් "අනිච්ච" යන ප්‍රකාශය කැමති සේ නොපැවතීම හැමවිටම දුක උපදවයි. බිහි වූ සියලු සංඛාරයෝ කැමති සේ නොපැවතීම තමාගේ කැමැත්ත අනුවම පවත්වා ගැනීමට නොහැකි වීමම දුකට මුල් වේ. දුකට හේතු වේ. විපරිණාමය, වැහැරීම, විනාශ වීම සෑම සංඛාරයකටම පොදු ධර්මතාවකි. ලොව හටගත් බිහි වූ සියලුම සංඛාරයෝ නිපද වූ ශක්තිය ගෙවීයාමත් සමගම සෑම මොහොතකම වෙනස් වී විනාශය කරාම යන ගමන නිසා කිසිවක් අප කැමති සේ පවත්වා ගත නොහැකිය. එයම දුක ඇති වීමට හේතුවයි. දුකට පත්වීමට, දුකක් ලැබීමට අපි කෙසේවත් කැමති නොවෙමු. එයද අප කැමති සේ පවතින්නක් නොවේ. එයද "අනිච්ච" වේ. සැප අවසන් වී සැප වෙනස් වීම සේම, දුක ඇති වීමද අපේ කැමැත්ත නොවේ.

"සබ්බේ සංඛාරා අනිච්චාති"
"සබ්බේ සංඛාරා දුක්ඛාති"

යනුවෙන් දේශණා කළේ මේ තත්ත්වයයි. සියලු සංඛාරයෝ කැමති සේ නොපැවතීම නිසාම සියලු සංඛාරයෝ දුකම උපදවයි යනු මෙහි තේරුමයි.

ඒ නිසා අන්‍යතාභාවය හෝ අනියතභාවය ත්‍රිලක්ඛණයට අයත් නොවන බව සැක හැර දැන බුද්ධ භාෂිතයේ සඳහන් අනිච්ච, දුක්ඛ, අනත්ථ යන ත්‍රිලක්ඛණයම නිවැරදි ලෙස භාවිතා කළ යුතුය. මේ පැවැත්ම පිළිබඳව දුක්විඳීම පිළිබඳව අරිය සත්‍යයන් පිළිබඳව නිවැරදිව තේරුම් ගැනීමට නම් ප්‍රිය මනාප බව, කැමැති බව, ඉච්ච බව මෙන්ම අනිත් අන්තය වූ අප්‍රිය අමනාප බව, අකමැති බව හා අනිච්චතාවය ගැනද නිවැරදි ලෙසම තේරුම් ගත යුතුය. ලෝක සත්ත්වයා තමන් විසින්ම විඳවන හැම දුකකටම හේතුව මේ ලෝකයේ පවතින ධර්ම ස්වභාවය නිවැරදිව තේරුම් නොගෙන, ධර්ම ස්වභාවයට විරුද්ධව කටයුතු කිරීමට දරණ නිබඳ උත්සාහයයි. එනම් තම හිතෙන්ම සකස් කරගත් සංඛතයන් තම කැමැත්ත පරිදි දිගටම පවත්වා ගැනීමට දරණ නිබඳ උත්සාහයයි.

"සබ්බේහි මේ පියේහි මනාපේහි නානා භාවෝ විනා භාවෝ" යැයි බුදුපියාණන් මේ කැමැත්ත, ප්‍රිය බව පිළිබඳව ඉතාම පැහැදිළි ලෙසින් විග්‍රහ කර පෙන්වා වදාළහ. සියලුම ප්‍රිය වූ, මනාප වූ දේ නානාභාවයටත්, අනිත්‍යතාභාවයටත්, විපරිණාමය වීමටත් පත්වී විනාශ වී නැති වී යන්නේය යනු ධර්මතාවයයි. මෙහි ප්‍රියේහි යනු ඉච්ච බව, කැමති

බව යන අදහසයි. අනිච්ච බව බිහිවන්නේද කැමැත්ත, ඉච්ච බව අල්ලා නවත්වා ගැනීමට දරණ උත්සාහය නිසාමයි. අන්‍යතාභාවයට පත් වී, අනිච්ච බවටත් පත්වන්නේ මේ කැමැත්තමයි. ගැඹුරින් සිතා ද්වතාවය තේරුම් ගෙන අවබෝධ කරගත යුතු ධර්මය මෙයයි.

සංසාර රිය ගමන ප්‍රිය මනාප දෙයක් ලෙස දකින තුරාවට මේ රිය ගමන යයි. ඊට හේතුව ත්‍රිලක්ඛණය නිවැරදිව අවබෝධ කර නොගැනීමයි. අවබෝධ නොවීමයි. ත්‍රිලක්ඛණය නිවැරදිව අවබෝධ කර ගැනීමෙන් මේ සංසාර ගමන පිළිබඳව යථාභූත ඥාණයෙන් නිවැරදි මිම්මකින් මැන දුක යන සංකල්පය පිළිබඳව සත්‍යාවබෝධයක් ලැබිය හැකියි. ප්‍රිය මනාප දේ සොයමින් දුක පළවා හැරීමට දුකෙන් පලායෑමට දරණ උත්සාහය සංසාර රිය ගමනක් බව එවිට නිවැරදිව තේරුම් ගත හැකි වනු ඇත. මේ සත්‍යය තේරුම් ගත් විට පමණක් දුක යනු තමන්ම හිතෙන්ම සාදාගත් ප්‍රිය මනාප දේ අල්ලා ගැනීමට ගන්නා උත්සාහයේම ද්වතාවය  බවත් තේරුම් ගත හැකියි.

"අනිත්‍යයි, දුක්ඛයි, අනාත්මයි" ලෙස අද වැරදියට මෙනෙහි කරන ත්‍රිලක්ඛණය මඟින් කිසිදාක නිවැරදි ව දුක අවබෝධ කර ගත නොහැකි බව පැහැදිළිවම තේරුම් ගත යුතුයි.

දුක, සැප යන දෙකම විඤ්ඤාණයෙන්ම සාදා ගත් මායාවල් පමණි. සත්‍යයක් එහි ඇත්තේම නැත. විඤ්ඤාණ තත්ත්වයෙන් ක්‍රියාත්මක වන හිතකට දුක සැප අතර කරන නිරතුරු ගමනින් ආහාර සොයා දේ. බලාපොරොත්තු හිතේ ඇති කරවයි.  ප්‍රිය මනාප දේ යනු බිලී කොක්කක ඇමිණුව ඇමක් වැනිය. ප්‍රිය මනාප දේ සැප සුව දේ සොය සොයා ඒ පසුපස හඹායාම නිසා කොක්කටම ඇමිණී දුක උරුම කර ගැනීම සංසාර රිය ගමනයි.

"සබ්බේ ධම්මා අනත්ථා" යනුවෙන් දේශණා කර වදාළේ තුන්වැනි ලක්ෂණයයි. "අනත්ථ" යන පාලි පදයේ සිංහල තේරුම අනාථ යනුයි. "අසාරට්ඨේන අනත්ථා" යන දේශණාවේදී මේ අනාථ බව, අසාර බව පෙන්වයි. සියලු සංඛාර දුකම උපදවයි නම් ඉන් බිහිවන ධර්මතාවය අනාථ තත්ත්වයකි. අනාථයි යනු පිහිට කර ගත නොහැකි අර්ථයක් නැති, වටිනාකමක් නැති දෙයක් බව පැවසීමයි. මෙතැන ප්‍රිය මනාප බව, ප්‍රිය මනාප දේට ඇලීම දුකක් උපත ලබන්නට හේතුව බව පෙන්වා දී ඇත.

දුක්ඛිත තත්ත්වයට පත්වීම අනාථ බවට පත්වීමකි. ඒ නිසා බිහිකරන කිසිඳු සංඛාරයක් කැමති සේ නොපැවතීම අනාථ තත්ත්වයට පත් වීමකි. හරයක්, අර්ථයක්, වටිනාකමක් නැති දෙයකි. මෙය දුක දැකීමෙහි සත්‍යය ස්වරූපයයි. පැවැත්මේ යථා ස්වරූපය දැකීමයි.

"අනත්ථ" යන පදය සිංහලයට පරිවර්තනය කිරීමේදී යොදාගත් "අනාත්ම" යන පදය හින්දු ධර්මයේ භාවිතාවන පදයකි. ආත්ම අනාත්ම වාදය බුදු දහම ඉදිරිපත් කළේ නැත. මෙය අන්තයක් අල්ලා ගැනීමකි. ආත්ම අනාත්ම යනු අන්ත දෙකකි. බුදුපියාණන් ප්‍රතික්ෂේප කළ සංකල්පයකි.

ත්‍රිලක්ඛණය භාවනා කිරීමේදී බුදුපියාණන් පෙන්වා දුන් පරිදි පාලි වචන තුනම "අනිච්ච, දුක්ඛ, අනත්ථ" භාවිතා කිරීම වඩාත්ම සුදුසු ක්‍රමයයි. මින් අදහස් කළ දේ තේරුම් ගෙන දුක දැකිය හැකි බව හොඳින් අවබෝධ කරගැනීමෙන් පසුව මෙය කර්මස්ථානයක් ලෙස භාවිතා කිරීම ඵලදායි වේ.

"බිහිවන සියලු සංඛාරයෝ ප්‍රිය මනාප දේ අල්ලා ගැනීම නිසා බිහිවූවකි. ඒවා කැමති සේ නොපවතී". "දිගින් දිගටම කැමති ආකාරයෙන්ම පවත්වාගත නොහැකි ධර්මතාවය අනිච්ච ධර්මතාවයයි. "කැමති සේ දිගටම නොපවතින සියලු සංඛාර දුකයි". දුකම උරුම කර දෙන තත්ත්වය අනාථ තත්ත්වයයි". අර්ථයක්, වටිනාකමක් නැති පැවැත්මකි. ජීවත්වීම යනු සංඛාර පැවැත්වීමයි. ප්‍රියයි, මධුරයි, සැපයි, සුවයි යනුවෙන් සංඛාර සිතන්නේ, කරන්නේ, කියන්නේ රාග, ද්වේෂ, මෝහවලින් බැඳීම, ඇලීම නිසා සිතේ හට ගත් මුළාව නිසාමය. ප්‍රිය, මධුර යැයි නිගමනය කළ දේ කැමති සේ දිගටම නොපවතින මෙම පැවැත්මෙහි ඇලී, බැඳී ඉන් මුළා වී සිටීම මොනතරම් අනාථ තත්ත්වයක්ද? කැමති සේ නොපවතින, දුකම උරුම කර දෙන, අනාථ තත්ත්වයට පත් කරන දේ අතහැර, නොඇලී, නොබැඳී සිටීම දුකින් මිදීමට, අනාථ තත්ත්වයෙන් මිදීමට ඇති එකම මාර්ගයයි.

* * * * * * * * * * *

## තිපරිවට්ටය

විද්‍යා විමුක්තිය හා ප්‍රඥා විමුක්තිය උදාකර ගැනීමට දරණු ලබන්නා වූ මේ උත්සාහයේ දී තිපරිවට්ටය පිළිබඳව නිවැරදි අවබෝධයක් ලබාගැනීම ඉතාමත්ම වැදගත් වේ. තිපරිවට්ටය යනු කුමක්ද යන්න පළමු කොටම තේරුම් ගත යුතුව ඇත. විවිධාකාර වූ තිපරිවට්ටයන් බුද්ධ දේශණාව තුළමත් දේශණා කර තිබේ.

නිවන් අවබෝධ කරගැනීමට උපකාර වන වට්ට තුනක් පිළිබඳව සළකා බලමු.

1. සංවට්ට
2. පරිවට්ට (ආවට්ට ලෙසද සමහර තැනක සඳහන් වේ) සහ
3. විවට්ට

1. සංවට්ට යනු, තම තමන්ම එකතු කර සාදාගත්, සාදාගෙන වටකර ගත්, ලෞකිකත්වයට සම්බන්ධ වන, සංසාරයට බැඳීමට හේතු වන කාරණා සමූහයක් උපදවා, එකතු කර උපාදානය කර ගැනීමේ ක්‍රියාවලියකි. (සං යනු එකතුවකි)
2. පරිවට්ට - ආවට්ට යනු තමන්ම එකතු කර සාදා ගත් ලෝකය පරිහණය

කරමින් ජීවත් වීමයි. උපාදානය කරගත් පංචස්කන්ධයන්ම පරිහරණය කරමින්, මේ සාදාගත් ලෝකයෙන් මිදීමට නොහැකි වී, දැනීමක් නොමැතිවම ලෝකය තුළම හිර වී දුක් විඳීමයි. සිටි තැනටම ආපසු කරකැවී නැවත නැවතත් පැමිණීම ආවට්ටයයි.

3. විවට්ට යනු තමන්ම අතීතයේ දී එකතු කර, සාදාගත් සංයෝජන (බැමි) සියල්ලෙන්ම සදහටම මිදී නිදහස් වී, ලෞකිකත්වයෙන් ඉවත්ව, ලෝකෝත්තර තත්ත්වයට පත්වීමයි. "විවටති විරෝචති" යනු විවෘත වීම යන අදහසයි. මෙහිදීද තමන් ම සාදාගත් වටයෙන් වෙන්වීම, මිදීම, මිදී නිදහස් වීම "විවට්ට" වීමයි.

මීට අමතරව බුද්ධ දේශණාවේ ම පෙන්වා වදාළ තවත් විවිධ ආකාර තිපරිවට්ටයන් කිහිපයක් පහත දැක්වේ.

1. කම්ම වට්ට 2. කෙළෙස වට්ට
3. විපාක වට්ට යනු තිපරිවට්ටකි.

1. පරීක්ෂණ 2. නිරීක්ෂණ
3. නිගමන තිපරිවට්ටයක් වේ.
(සත්‍යය ඥාණ, කෘත ඥාණ, කෘත්‍ය ඥාණ)

1. සුතේථ 2. ධාරේථ
3. චරේථ යනු තවත් තිපරිවට්ටයකි.

1. උප්පාද 2. තිථි
3. භංග යනු තිපරිවට්ටයකි.

මේ සෑම තිපරිවට්ටයක්ම නිවන් දැකීමේ අවසාන පරමාර්ථය සඳහාත් උපකාර වේ.

නමුත් තම තමන්ම එකතු කර සාදා ගන්නා මේ ලෝකය, වටය සාදාගන්නා ආකාරය තමන්ටම තේරුම් ගැනීමට ලැබෙන්නේ, දැකගැනීමට ලැබෙන්නේ "සංවට්ටය" පිළිබඳව නිවැරදිව කරුණු තේරුම් ගැනීමෙන්ම පමණි. එසේම මේ සාදාගත් ලෝකය තුළ තමන්ම හිර වී, මංමුළා වී නොනවතින සංසාර ගමනක යෙදෙන්නේ කුමන හේතුන් නිසාද යන්නත් තමන්ම තේරුම් ගත යුතුයි. වඩාත් වැදගත් වන්නේ තමන් සැප විඳිනවාය, දුක් විඳිනවාය, ජීවත් වෙනවාය යනුවෙන් කරන, කියන, හිතන සියලු දේ නිසාම හැම මොහොතකම මේ සදාගත් වටය තව තවත් නවීකරණය කර ගනිමින්, අලුත්වැඩියා කරමින් ඒ වට්ටය තවත් ශක්තිමත් කර ගැනීමට උත්සාහ දැරීම බව තේරුම් ගැනීමයි. පෘථග්ජන පුද්ගලයෙකුට පහසුවෙන් තේරුම් ගත නොහැකි වන්නේද මේ පරිවට්ට ආවට්ට යන තත්ත්වයයි. පරිවට්ටය පිළිබඳ නිවැරදි අවබෝධයක් ලබා නොගත් කෙනෙකුට විවට්ට යන තත්ත්වය කෙසේවත් තේරුම් ගත නොහැකියි. තමන් ම අතීතයේ උපදවා ගොඩනගා ගත් ශක්තියෙන් නිර්මාණය කරගත් "සංවට්ටය" දෛනිකව

අලුත්වැඩියා කරමින් දිගටම පවත්වා ගෙන යෑමට උපකාර වන්නේද තමන්ගේම සිතේ මතු වන සංඛාර මිස වෙනත් කිසිම බාහිර සාධකයක් නොවන බවත් මේ තිපරිවට්ටය පිළිබඳවම ධර්මතාවය අසා තේරුම් ගත් කෙනෙකුට නිවැරදීම දැක ගත හැකි වේවි.

මේ අකාරයට තමන්ම අතීතයේ සාදාගත් සංවට්ටය තේරුම් ගෙන ජීවත් වන හැම මොහොතකම එය පරිහණය කරමින් ජීවත් වී මතු පැවැත්ම සඳහා අවශ්‍ය වන පරිද්දෙන් මේ පරිවට්ටයන් පවත්වා ගන්නා බවත් තේරුම් ගෙන මේ වට්ටයෙන් සඳහටම මිදී නිදහස් වන්නට අනුගමනය කළයුතු නිවැරදි ක්‍රියාමාර්ගය පිළිවෙත් පැහැදිළිව දැන ගත යුතුයි. සීල, සමාධි, පඤ්ඤා යන මූලික පිළිවෙත් පැහැදිළිව දැනගත යුතුයි. මේ නිසා අපි සීලයේ තිපරිවට්ටයත්, සමාධියේ තිපරිවට්ටයත්, පඤ්ඤාවේ තිපරිවට්ටයත් මෙතැනදී විශේෂයෙන්ම පැහැදිළි කර ගත යුතුයි.

තවද බුද්ධ දේශණාවෙන් ඉදිරිපත් කළ සියලුම ධර්ම කරුණුවලට අදාළවත් තිපරිවට්ටයක්ම දේශණා කර පෙන්වා දිය හැකි බව හැම කෙනෙකුම අවබෝධ කරගත යුතුයි. මජ්ඣිම නිකායේ පළමු වැනි සූත්‍ර දේශණාව වන මූලපරියාය සූත්‍රය, සම්පූර්ණයෙන්ම තිපරිවට්ටය පිළිබඳව දේශණා කරන ලද මූලධර්ම විග්‍රහයකි. මේ සූත්‍රයේ දී පෙන්වා වදාළ තිපරිවට්ටය,

1. මඤ්ඤති 2. මා මඤ්ඤති 3. න මඤ්ඤති

1. මඤ්ඤතාවය, මමත්වය, අස්මිමානය, මම යන තත්ත්වයට පත් වන්නට මුල් වන කරුණු, සංවට්ටය එනම්, මඤ්ඤතාවයයි.

2. මමත්වයෙන් මිදී නිදහස් වීමට අනුගමනය කළයුතු ක්‍රියාපිළිවෙත එනම්, අතහැර මිදී, නොඇලී නිදහස් වීම එය පරිවට්ටය, ආවට්ටය ලෙසත් පෙන්වා දිය හැකියි. එතැනදී "මා මඤ්ඤති" යනු පරිවට්ටයෙන් මිදීමේදී අනුගමනය කළයුතු වැඩපිළිවෙළ විස්තර කර පෙන්වා දීමයි.

3. "නමඤ්ඤති" යනු විවට්ට තත්ත්වයට පත් වූ, වටයෙන් මිදී නිදහස් වූ අරහතුන් වහන්සේගේ තත්ත්වය පිළිබඳව විස්තර කර පෙන්වා දීමයි.

## සීලයේ තිපරිවට්ටය

සීලයේ තිපරිවට්ටය පිළිබඳව අපි දැන් විස්තර සහිතව සොයා බලමු.

1. මිච්ඡා සීලය
2. ලෞකික සීලය (වේරමණී සීලය)
3. අරියකාන්ත ලෝකෝත්තර සීලය

සීලය යනු ළය සිසිල් වීමයි. තම තමන්ම එකතු කරගත් සුන්දර දේ නිසා තමා තුළම ගින්දර ඇවිළී එකොළොස් ගින්නක් තම හද තුළම ඇවිළීම නිසා තමන්ටම විඤ්ඤාණ ශක්තියක් උරුම වේ. සංවට්ට යනු මේ දර එකතු කර සාදා ගත් ගිනි ගොඩයි. මිච්ඡා

සීලයෙන් සිදු වන්නේ කෙළෙස් නැමති දර රාග, ද්වේෂ, මෝහ එකතු කර ගිනිගොඩ ඇවිළීමෙන් එකොළොස් ගින්නක් තම හද තුළම අවුළුවා ගැනීමයි. අතීත සංසාරයේ කවදා හෝ මිච්ඡා සීලයෙහි නොයෙදීම නිසාත් තමා එකතු කරගත් රාග, ද්වේෂ, මෝහ ගති තමා තුළම ගබඩා වී නොපැවතීම නිසාත් මේ සංසාර ගමන දිගටම යැමට අවශ්‍ය වෙන්නා වූ ඉන්ධන ශක්තිය නොලැබී යයි. ඒ නිසා සංවට්ටය තමන්ම මිච්ඡා සීලයේ යෙදීමේ ඵල විපාකයක් ලෙසින් සකස් කරගත් හදාගත් වටයකි.

මිච්ඡා සීලය තමාම අපායගාමී වීමට හේතුවන බව, මූලික වන බව අසා දැනගත් කෙනෙකු අපායෙන් බේරී සුගතිගාමී වීමට අදහස් කිරීම නිසා මිච්ඡා සීලයෙන් වෙන්වීම සඳහා (වේරමණී සීලයක්) ලෞකික සීලයක් සමාදන් වේ.

1. "පාණාතිපාතා හෝති" යනු පණ ඇති සතෙකුගේ පණ නැසීම යන මිච්ඡා සීලයයි.
2. "පාණාතිපාතා වේරමණී සික්ඛා පදං සමාදියාමි" යනු "පණ ඇති සතෙකුගේ ප්‍රාණයට හානියක් කිරීමෙන් වෙන් වී වැළකී සිටීම" යන සමාදන් වීමයි. එය ලෞකික සීලයයි.
3. "පාණාතිපාතං පහාය පාණාතිපාතා පටිවිරතෝ හෝති" යනු අරියකාන්ත සීලයයි. ලෝකෝත්තර සීලයයි. මෙතැනදී මනසින් සිතා බලා කටයුතු කරන කෙනෙකු ලෙස ඔබ ලෞකික සීලය එනම් වේරමණී සීලය හා පටිවිරතෝ හෝති යන අරියකාන්ත සීලය යන දෙකම පිළිබඳව වෙනස මනා කොට තමා තුළින්ම දැන දැක ගත යුතුයි. ලෞකික සීලය හා අරියකාන්ත සීලය යනු දෙකක් බව පළමුවෙන් ම දැකගත යුතුයි.

බොහෝමයක් පෘථග්ජන ලෝකයා ප්‍රාණඝාතයක් කිරීමෙන් වැළකී සිටින්නේ, පර පණ නැසීමෙන් තමාට ද අපා දුක් විඳීමට සිදු වන බව අසා දැන ඇති නිසා අපායෙන් වෙන් වී සිටීමේ චේතනාවෙන් අපාදුක් විඳීමට ඇති භය නිසාම පාපයෙන් වැළකී කටයුතු කරති. තවත් බොහෝමයක් දෙනා පර පණ නැසීමෙන් වැළකී සිටින්නේ සුගතියක ඉපදීමට, දිව්‍ය ලෝකවල බ්‍රහ්ම ලෝකවල, මිනිස් ලෝකයේ ඉපදීමට හැකි වෙතැයි සැපයට ආශා වී සිල් රකී. මේ අනුව වේරමණී සීලය සමාදන් වීමෙන් බලාපොරොත්තු වන්නේ මෙම ලෞකිකත්වය තුළම යම්කිසි යහපත් තැනකට පත්වීමකි. එනම් අපායෙන් මිදීමත්, සුගතියට පත් වීමත් යන ලෞකික බලාපොරොත්තු යන අන්ත දෙක මිස, නිවනට උපකාර වන අරිය සීලයක් මෙම ලෞකික සීල සමාදානයේ නැති බව පැහැදිළි විය යුතුයි. එය යහපත් සංසාර ගමනක් දිගට ම පවත්වා ගෙන යැමට නම් උපකාර වේ. මෙහිදී කුසලයක් සිදු නොවේ. පාපයෙන් වෙන්වීම කුසලයම නොවේ. පාපයෙන් වෙන්වීම පින්කමක් ද නොවේ. නමුත් එය ද ලෞකික සීලයකි.

බුදුපියාණන් දේශණා කර වදාළ අරිය සීලය යනු මෙම ලෞකික සීලය නොවේ. බුදුපියාණන් උපත ලැබූ යුගය වන විටත් සම්මතයෙන් සමාදන් වූ සීල සමාදානයක් එදා භාවිතයේ පැවතුණු බව කවුරුත් දන්නා කරුණකි. මහාමායා දේවිය බෝසත් කුමරා ගැබ්ගත් අවස්ථාවේ පටන් අෂ්ටාංගික උපෝසථ සීලය සමාදන් වී සිටි බවත් ප්‍රකට

කරුණකි. මහා සම්මත රජුගේ කාලයේ පටන්ම දස රාජ ධර්මයේ අඩංගු සිල් පදවලින් පද පහක් අද දක්වාත් පන්සිල් පද ලෙසින් සමාදන් වේ. මේ ලෞකික සීලයයි.

බුදුවරයෙකු ලොව පහළ වන්නේම පෙර නොඇසූ විරූ "පුබ්බේ අනනුස්සුතේසු ධම්මේ" යන නවතම ධර්ම අර්ථ විග්‍රහයක් කිරීමටයි. මේ ආකාරයෙන්ම ගෝතම බුදුපියාණන්ද බුද්ධත්වයට පත් වී සීලය නමින් එදා සම්මත කරගෙන තිබූ යහපත් සිල් රැකීමේ ප්‍රතිපදාවටත් අලුත්ම අර්ථකථනයක් ලබා දී අලුත්ම ආකාරයේ ලෝකෝත්තර සීලයක් ලෝකයාට හඳුන්වා දුන්හ. මේ සීලය එතෙක් භාවිතයේ පැවති ලෞකික සීලයේ එන පදවැල්වලටම නව අර්ථකථනයක් ධර්ම අර්ථයක් ලබා දීමකි. අපායෙන් මිදී නිදහස් වීම හෝ දෙව් මිනිස් සැප ලබා ගැනීම හෝ මෙම සීලයේ පරමාර්ථය හෝ බලාපොරොත්තුව හෝ නොවේ. මෙම අරිය සීලයෙන් බලාපොරොත්තු වූයේ ලෝකෝත්තර නිවනයි. ලෝකයෙන් එතෙර වීමට ලෞකිකත්වයෙන් මිදී නිදහස් වීමට උපකාර වන ආකාරයේ අධ්‍යාත්මික නිවීමක් ළය සිසිල් වීමක් මේ අරියකාන්ත සීලයේ පවතී. ලෞකික සීලයෙන් සිදුවන්නේ ශික්ෂණයකි. එය තාවකාලික හික්මීමකි. නමුත් ලෝකෝත්තර අරියකාන්ත සීලයෙන් බලාපොරොත්තු වන්නේ හික්මීම තුළින්ම බිහිවන ලබා ගත හැකි සංවරත්වයට ද පත් වීමකි.

අරිය සීලය එකකි. පෘථග්ජන පුද්ගලයාගේ සීලය තව එකකි. අරිය උත්තමයෙකු සීලයෙහි පිහිටන්නේ යථාවබෝධයෙන්මය. ඒ බණ අසා කරුණු අවබෝධ කරගෙන ගිනි උපදින තැන් දුන, ගින්නට හේතු දැක ප්‍රඥාවෙන්ම ඒ ගිනි නිවා සිසිල් කර ගැනීමට උපකාර වන දහම ධර්ම මාර්ගය කුමක්දැයි ලැබූ යථාවබෝධයෙන්ම සීලයෙහි පිහිටයි. එය හේතුඵල දහම අවබෝධයෙන්ම ලැබූ සීලයකි. අරිය සීලය කුසල සීලය ලෙසද හඳුන්වනු ලැබේ.

අරිය උත්තමයෙකු සීලයෙහි පිහිටනවා මිස කවුරුන් හෝ සීලයෙහි පිහිටවනවා නොවේ. කාගෙන්වත් ගත් සීලයක පිහිටනවාද නොවේ. කවුරුන් හෝ දුන් සීලයක් ගන්නවාද නොවේ. ලෝක අපවාදයෙන් බේරීමට ලෝකයාට ප්‍රදර්ශනය කිරීමට සිල්වතෙකු බව කියා පෑමට රකින සීලයක් ද නොවේ. යම්කිසි ලාභයක්, ප්‍රයෝජනයක්, කීර්තියක්, ප්‍රසංශාවක් ලබා ගැනීමේ අරමුණින් රකින සීලයක්ද නොවේ. ගුරු හාමුදුරුවන්ගෙන් සිල් ලබා ගත් නිසා ගුරු කුලයේ සම්මතයෙන් සියලු අය සිල් වත රකින නිසා රකින සීලයක්ද නොවේ. දායක, ශ්‍රාවකකාරක ආදීන්ගෙන් සිව්පසය ලබා ගැනීම සඳහා රකින සීලයක්ද නොවේ. හේතුඵල දහම දැක ඒ පිළිබඳ ලැබූ යථාවබෝධයෙන්ම මෙතෙක් කල් විඤ්ඤාණයෙහි උපත ලත් ලෝභ, ද්වේෂ, මෝහ නැමති කුණු සළා හැරීමෙන්ම ගිනි නිවා දැමීමෙන්ම ලැබූ සිසිලකි, සීලයකි. ඒ නිසාම අරිය සීලය කුසල සීලය ප්‍රඥාව මුල් කොට ගෙනම සීලයේ පිහිටීමකි.

කුණු සළා හැරීමෙන් චිත්තය අධිප්‍රතිසාරයට පත්වෙයි. අධිප්‍රතිසාරයට පත්වීමෙන් ප්‍රමෝදය ඇතිවේ. ප්‍රමෝදයෙන් ප්‍රීතිය හට ගනී. ප්‍රීතියෙන් ප්‍රසබ්දිය (සංසිඳීම) ඇතිවේ. සංසිඳීම නිසා සුවය ලැබේ. සුවය සමාධියට පත්වේ. සමාධියට පත්වීමෙන් යථාභූත ඥාණ දර්ශනය (අලෝකය) ලැබේ. විරාගය නිරෝධය, විමුක්තිය ඉන්පසුව ක්‍රමයෙන්

ධර්මානුකූලවම ලැබේ. මෙය අරිය සීලය වැඩෙන ගමන් මඟයි. එය බලෙන් වඩා ගත හැකි දෙයක් නොවේ.

අරිය උත්තමයෙකුට උත්සාහයෙන් සිල් රැකීමක් හෝ පොරොන්දු වීමක් ලෙස සිල් ගැනීමක් හෝ කෙනෙකුගෙන් ගත් සිල් වතක පිහිටීමක් හෝ අවශ්‍ය නොවේ. අරිය තත්ත්වයට පත්වීමත් සමඟම ලැබූ යථාවබෝධය නිසා සීලයෙහි පිහිටයි. ඒ සීලය ප්‍රඥාවෙන්ම රකී. සෝවාන් තත්ත්වයට පත් වීමත් සමඟම අරිය උත්තමයා යම් සීලයක් හෝ වතක් පරම ආහාර කොට පැවැත්වීමෙන් මිදෙන්නේ මේ නිසාමය. ඒ සංයෝජනයෙන් මිදුණු නිසාය.

සීල, සමාධි, ප්‍රඥා එකම රෝදයක ගරාදි තුනක් බඳුය. මේ ගරාදි තුනම නොමැතිව රෝදය කැරකැවිය නොහැකිය. එමෙන්ම ප්‍රඥාව අරිය සීලයෙහි මුල් ගරාදියයි. ප්‍රඥාව නිසා සීලයෙහි පිහිටන අතර සීලය නිසා සමාධිය වැඩේ. සමාධිය නිසා ප්‍රඥාව වැඩේ. ප්‍රඥාව වැඩෙත්ම සීලය බලවත් වේ. නැවත සමාධිය බලවත් වේ. නැවත නැවත ද ප්‍රඥාව බලවත් වෙයි. මෙය ගුණාකාරයෙන් වර්ධනය වීමක් සිදුවෙයි.

පෘථග්ජන පුද්ගලයාට සීලය යනු ආරක්ෂක වැටක් පමණි. රාග, ද්වේෂ, මෝහ නිසා කරන අකුසල්වලින් වෙන් වී බේරී සිටීමට ඉදිකරගත් වැටකි. ඒ වැට සකස් කර ප්‍රඥාව නැමති බීජය වපුරා නොගත්තේනම් අස්වැන්නක් ලබා ගත නොහැක. එනම් ප්‍රඥාව නොවැඩේ. අරිය උත්තමයාට සීලය වැටක් නොවේ. ප්‍රඥාව නැමති භෝගය වැඩී උස් මහත් වී ඇති නිසා රාග, ද්වේෂ, මෝහ නැමැති වල් සතුන්ට ඒ භෝග පාළු කර දැමිය නොහැකිය.

මේ අනුව බුදුපියාණන්වහන්සේ එදා අලුතින්ම ලෝකයාට දේශණා කර වදාළේ එතෙක් ලෝකයේ භාවිතා වෙමින් පැවති ලෞකික පංච සීලයම නොවේ.

බුදුපියාණන්වහන්සේ ලෝකයාට අලුතින් එදා දේශණා කර වදාළ ලෝකෝත්තර පංච සීලය වන්නේ,

1. සංවර සීලය
2. චේතනා සීලය
3. වේරමණී සීලය
4. ප්‍රහාණ සීලය
5. අවිතික්කම සීලය

යන අංග පහකින් සමන්විත වූ අරියකාන්ත සීලයයි. ඒ වාගේම මේ පංච සීලය ම තවත් ආකාරයකින් විග්‍රහ වේ.

1. පරියන්ත පාරිසුද්ධි සීලං
2. අපරියන්ත පාරිසුද්ධි සීලං
3. පරිපුණ්ණ පාරිසුද්ධි සීලං
4. අපරාමට්ඨ පාරිසුද්ධි සීලං
5. පටිප්පස්සද්ධි පාරිසුද්ධි සීලං

ලෙසත් පටිසම්භිදාමග්ග දේශණා වෙන්ම සීලය විග්‍රහ කර තිබේ.

1. "සංදේශණාවක් අසා සංදිට්ඨිකෝ" තත්ත්වයට පත් වී, සංවර වීමට පෙර "සංවරේන පහාතබ්බා" යන තත්ත්වයට පත් වීමට පෙර රකින සීලය අනුපසම්පන්න "පරියන්ත පාරිසුද්ධි සීලය" ලෙසත්,

2. සංදිට්ඨිකෝ තත්ත්වයට පත් වී, දස්සනේන සම්පන්න වී, සංවරත්වය තේරුම් ගත් පසුව සංවරේන පහාතබ්බා කිරීම සඳහාම රකින සීලය "උපසම්පන්න සීලය" ලෙසත්,

3. කල්‍යාණ මිත්‍ර සම්පත්තියක් ලැබී, කුණු සළාහැරීම සඳහා, මඟඵල සඳහාම රකින සේඛ සීලය "පරිපූණ්ණ පාරිසුද්ධි සීලය" ලෙසත්,

4. මඟඵලලාභිව අරහත් තත්ත්වයට පත්වීමේ බලාපොරොත්තුවෙන් රකින සීලය "අපරාමට්ඨ පාරිසුද්ධි සීලය" ලෙසත්,

5. බුද්ධ තත්ත්වයට පත්වූ ලොව්තුරා බුද්ධ, පච්චේක බුද්ධ, අරහත් බුද්ධ යන අසේඛ අරිය උත්තමයන් වහන්සේලාගේ සීලය "පටිප්පස්සද්ධි පාරිසුද්ධි සීලය" ලෙසත්, ගෝතම බුදුපියාණන් පිරිසිදුවම වෙන් වශයෙන් දේශණා කර පෙන්වා වදාළහ.

අරියකාන්ත ලෝකෝත්තර සීලයේ වැදගත්ම අංගයක් වන්නේ එය සංවර සීලයක් බව ප්‍රකාශ කිරීමයි. තමන්ගේම ඉන්ද්‍රියයන් හයම සංවර කර ගැනීමෙන්ම මෙම සීලයේ පිහිටිය යුතු වේ.

"කායේන සංවරෝ සාධු
සාධු වාචාය සංවරෝ
මනසා සංවරෝ සාධු
සාධු සබ්බත්ථ සංවරෝ"

යන තත්ත්වයට පත් වූ පුද්ගලයාට නිවන් මඟඵල පූර්ණ කර ගැනීමට නියත වශයෙන් ම තමන් තුළම පිහිටි සංවර සීලය උපකාර වේ. දහසක් සංවර සීලය, කෝටියක් සංවර සීලය, ප්‍රත්‍යසංනිස්සිත සීලය ආදී පදවලින් විග්‍රහ කර පෙන් වූ සීලයේ පිහිටීම සීලයේ තිපරිවට්ටයේ තුන්වන පියවර වූ විවට්ටයයි.

මේ අනුව මිච්ඡා සීලයෙන් වෙන් වීම සඳහා සමාදන් වන ලෞකික සීලය අදත් එදත් සම්මතයෙන් භාවිතයේ පවත්වාගෙන ආ යහපත්, හොඳ, ලෞකික පැවැත්වීමක් සඳහාම උපකාර වන සීලයක් මිස බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළ අරියකාන්ත සංවර සීලයම නොවන බව හැම බෞද්ධයකුම තේරුම් ගත යුතුව තිබේ. මුලින් ම සම්මත ලෞකික සීලයේ පිහිටීමත්, පසුව ලෝකෝත්තර සීලයේ පිහිටා සංවර වීමත් නිවන් අවබෝධ කර ගැනීමට බෙහෙවින්ම උපකාර වේ.

එදා සම්මතයෙන් ලෝකයා භාවිතා කරගෙන ආ සිල් පදයන්හි වචන මුල්කර ගෙනම ඒ පදවලටම නව අර්ථකථනයක් සහිත වූත් ධර්ම පරියායක් ප්‍රතිපත්තියක් සහිත වූත් සිල්පද රාශියක්ම බුදුපියාණන්වහන්සේ ම ලෝකයාට දේශණා කර වදාළ බව චුල්ලහත්ථිපදෝපම සූත්‍රයේත්, දීඝ නිකායේ සාමඤ්ඤපල සූත්‍රයේත්, තවත් සූත්‍ර ධර්ම ඉතා විශාල ගණනකත් දේශණා කර පෙන්වා වදාළහ.

පාණාතිපාතා වේරමණී සික්ඛා පදං සමාදියාමි
අදින්නාදානා වේරමණී සික්ඛා පදං සමාදියාමි
කාමේසු මිච්ඡාචාරා වේරමණී සික්ඛා පදං සමාදියාමි
මුසාවාදා වේරමණී සික්ඛා පදං සමාදියාමි
සුරාමේරයමජ්ජපමාදට්ඨානා වේරමණී සික්ඛා පදං සමාදියාමි.

යනුවෙන් භාවිතයේ පැවති ලෞකික සම්මත සිල් පද වෙනුවට බුදුපියාණන්වහන්සේ තම ශ්‍රාවකයින්ට එදා හඳුන්වා දුන්නේ,

පාණාතිපාතං පහාය පාණාතිපාතා පටිවිරතෝ හෝති
අදින්නාදානං පහාය අදින්නාදානා පටිවිරතෝ හෝති
අබ්‍රහ්මචරියං පහාය බ්‍රහ්මචාරී හෝති
මුසාවාදං පහාය මුසාවාදා පටිවිරතෝ හෝති
ඵරුසං වාචං පහාය ඵරුසා වාචා පටිවිරතෝ හෝති
පිසුණං වාචං පහාය පිසුණා වාචා පටිවිරතෝ හෝති
සම්ඵප්පලාපං පහාය සම්පප්ඵලාපා පටිවිරතෝ හෝති
සුරාමේරයමජ්ජපමාදට්ඨානං පහාය සුරාමේරයමජ්ජපමාදට්ඨානා පටිවිරතෝ හෝති.

ආදී වශයෙන් ත්‍රිපිටකයේ සඳහන් ලෝකෝත්තර සිල් පද රැකිය යුතු සිල් මිස සමාදන් විය යුතු ඒවා නොවේ.

බුදුපියාණන්වහන්සේ අලුතින් ලෝකයාට දේශණා කර වදාළ සීලය තම තමන්ම අවබෝධ කර තම තමන්ම සීලයෙහි පිහිටා ක්‍රියාකළ යුතු ප්‍රතිපත්ති මාර්ගයක් වේ. නමුත් පසුව අදවන විට නැවතත් සීල සමාදානයක් සම්මත කර ගත් බවත් පැහැදිළිවම පෙනේ. නිවනට උපකාර වන සීලය සංවර සීලයම මුල්කොට ගත් තමන්ගේම ඉන්ද්‍රියයන් හයම සංවර කර ගැනීමෙන්ම යම්කිසි ප්‍රත්‍යක්ෂ අවබෝධයකින් ප්‍රතිපත්ති රැකීමකි. අපායට යැමට භයෙන් හෝ දෙව්ලොව යැමේ ආශාවෙන් හෝ සමාදන් වන ලෞකික සීලයකට වඩා මෙය උතුම් සීලයකි. ලෞකික සීලයේ පරමාර්ථයත් ලෞකිකයි.

චුල්ලහත්ථිපදෝපම සූත්‍රයේ සඳහන් සීල පදයන්හි "පටිවිරතෝ හෝති" යනු "රත්තෝ පරත්ත විරතෝ පටිවිරතෝ වේරමණියා" යන සියලු ම අංගයන් ද ඇතුළත්ව විග්‍රහ කරන ලද සීලයයි. කාම ඕඝ, භව ඕඝ, අවිජ්ජා ඕඝ නිසා නිරතුරුවම කය රමණය කිරීමක් සිදු වේ. එසේ නැත්නම් රාගයෙන් මෝහයෙන් ඉන්ද්‍රියයන් පිනවීමක් කරයි. ඉන්ද්‍රියයන් පිනවීමට ක්‍රියා කිරීම නිසා තමාගේම ඉන්ද්‍රියයන් අසංවර වේ. පාප ධර්ම,

අකුසල ධර්ම සිදු වේ. ඊට පසු සංයෝජන නැමැති පටිවලින් තමන්ම සංසාරයට බැඳේ. මේ පටිවලින් ගැළවීමට නම් "පටිවිරති" කළ යුතුමයි. පටි ගළවා සංයෝජන ලෙහා ගළවා දැමිය යුතුයි.

බුද්ධ දේශණාවේ උතුම් බුද්ධ ධර්මයේ පමණක් සීලයේ තිපරිවට්ටයක් ඇති බව හෝ සඳහන් වේ. වෙනත් කිසිම ආගමක හෝ ලෞකික දර්ශනයක හෝ නිවන් දකින ලෝකෝත්තර සීලයක් පිළිබඳව ඉගැන්වීමක් නොකරයි. බොහෝ ආගම්වල උපදෙස් දෙන්නේ හොඳ, යහපත්, නිවැරදි සමාජයක් ලෞකික පැවැත්මක් දිගටම පවත්වාගෙන යැමට උපකාර වන ආකාරයේ ප්‍රතිපත්ති මිනිසුන්ට පෙන්වා දී හොඳ සමාජයක් බිහි කිරීම සඳහා යි. නමුත් උතුම් බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාළේ සංසාර දුකෙන් ලෝක සත්ත්වයා සදහට ම මුදවා ගෙන නිදහස් කරගැනීමට මඟ පෙන්වා දීමකි.

එසේ නම් බුද්ධ ධර්මයේ පෙන්වා වදාළ "විවට්ට" තත්ත්වයට පත් වීමට නම්, මිච්ඡා සීලයෙන් වෙන් වී, පළමුව වේරමණී සීලයෙහි පිහිටා, එයිනුත් ඉදිරියට ගොස් දෙවනුව ලෝකෝත්තර අරියකාන්ත සීලයේම පිහිටා ප්‍රතිපත්ති රැකිය යුතු බව මෙයින් පැහැදිළි වේ. අවංකවම නිවන් දැකීම සඳහා ප්‍රතිපත්ති පුරන බෞද්ධයෙකුට සංවර සීලය, චේතනා සීලය, ප්‍රහාණ සීලය, වේරමණී සීලය හා අවිතික්කම සීලය යන පංච සීලයම තේරුම් ගෙන සංවර සීලයේ පිහිටා කටයුතු කිරීමෙන් පමණක්ම අධි සීල යන අරිය තත්ත්වයටද පත්වී නිවන් අවබෝධ කර ගැනීමට උපකාර වන්නා වූ ධර්ම මාර්ගයේ පළමු පියවර සම්පූර්ණ කර ගැනීමටත් හැකියි. සෑම කෙනෙකුම පළමුව සීලයේ තිපරිවට්ටය ම තේරුම් ගැනීමට උත්සාහ ගත යුතුයි.

## සමාධියේ තිපරිවට්ටය

සීලයේ සේම සමාධියේත් ප්‍රායෝගිකවම තිපරිවට්ටයක් පෙන්වා දී තිබේ.

1. මිච්ඡා සමාධි
2. ලෞකික සමාධි (අනරිය සමාධි) හා
3. ලෝකෝත්තර අරිය සමාධි යනු මේ තිපරිවට්ටයයි.

1. මිච්ඡා සමාධි යනු පව්කමක් කිරීම සඳහා සිත එක අරමුණකට යොමු කර පාප කර්මයක් කිරීමේ ක්‍රියාවලියයි. බළලෙක්, කොටියෙක් තවත් පණ ඇති සතෙකු ගොදුරක් කර අල්ලා ගැනීම සඳහා සිත එකඟ කර අනිකුත් ඉන්ද්‍රියයන් නිසළ කර එකම එල්ලයකට සිත පත්කර ක්‍රියා කිරීම මිච්ඡා සමාධියකි. වෙඩික්කාරයෙක් සතෙකු මැරීමට සතුරෙකුට වෙඩි තැබීම වැනි නොයෙකුත් බාල ක්‍රියාවලදීත් මිච්ඡා සමාධියකම පිහිටා ක්‍රියා කරයි. සතුන් සේම මිනිසුන්ද මේ ආකාරයට ක්‍රියා කරති. උපායශීලි කපටි වැඩ කරන බොහෝ අය ඒ සඳහා මිච්ඡා සමාධියක පිහිටා ක්‍රියා කරති. එතැනදී රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් ක්‍රියාකර පාප කර්මයක් කිරීමක් සිදු වේ. එය අපායගාමී මිච්ඡා සමාධියකි.
2. ලෞකික අනරිය සමාධියක් යනු මිච්ඡා සමාධියෙන් වෙන් වී හොඳ යහපත්,

නිවැරදි ලෞකිකත්වයක් සඳහා සමාධිගත වීමයි. ලෞකික සමාධියත් යහපත් එකකි. මිච්ඡා සමාධියෙන් වෙන්වීමම යහපත් සමාධියකි. නමුත් එය නිවන් අවබෝධයට ප්‍රමාණවත් වන උපකාර වන ලෝකෝත්තර සමාධියක් නම් නොවේ. එසේ වුවද ලෞකික අනරිය සමාධියද හොඳ යහපත් දෙයකි. එතැනදී සිදුවන්නේ රාග, ද්වේෂ යන නරක ගති දෙක යටපත් වීමයි. එසේ නැතිනම් රාග, ද්වේෂ යන කෙළෙස් ධර්මයන් තාවකාලිකව දැවී, යටපත් වී යෑමයි. මේ යටපත් වීම තාවකාලිකයි. ඒ වාගේම මෝහය සහමුලින්ම දුරු වීමෙන් ලබන්නා වූ විද්‍යා විමුක්තිය, ප්‍රඥා විමුක්තිය මේ අනරිය ධ්‍යානයකදී නොලැබේ. කෙසේ වුවද අද භාවිතයේ පවතින භාවනා ක්‍රම බොහෝමයක් ම මගින් භාවනා මධ්‍යස්ථානවලදී සිදු කරනු ලබන්නේ දැන හෝ නොදැන හෝ මේ ලෞකික අනරිය ධ්‍යානයන් වැඩීමයි. පුරුදු කිරීමයි. මෙවන් භාවනා මධ්‍යස්ථානයකින් සමථ භාවනාවක් වැඩීම සඳහා අවශ්‍ය වන මූලික කරුණු දැන ඉගෙන ගැනීමත් යහපත් දෙයක්මයි. නමුත් ලෞකිකත්වය තුළින්ම සිදු වන සිතක මත්වීම නිසා අරූපී අනරිය ධ්‍යානයකට පත්වීම නොවැළැක්විය හැකියි. අනරිය, අරූපී ධ්‍යානයකට පත් වූ පුද්ගලයෙකු මේ ලෝකය තුළදීම ලබාගත හැකි අත්විඳ ගත හැකි උපරිම ලෞකික සුවයකට පත් වේ. ඒ පමණක් නොව ඒ ලෞකික සුවයෙන් ඔහු මත් වේ. අසංඥ තලයක මතු උපත ලබන්නට ද මේ අනරිය අරූපී ධ්‍යානයන් ම හේතු වේ.

බුදුපියාණන් දේශණා කර වදාළ පෙන්වා වදාළ චිත්ත සමාධි මේ අනරිය වූත්, ලෞකික වූත් සමාධි සමඟ සැසඳිය හැකි ආකාරයේ ඒවා නොවේ. බුදුපියාණන් සොයා දැන වදාළ භාවනා ක්‍රමය එතෙක් ලෝකයේ භාවිතා කරමින් සිටි රාග, ද්වේෂ ගති යටපත් කර ලබන්නා වූ තාවකාලික ලෞකික සුවයක් හෝ මේ ලෝකයේදීම විඳීම ලැබීමේ අනරිය ක්‍රමයක් හෝ නොවේ. අරිය භාවනාව රාග, ද්වේෂ, මෝහ ගති සහමුලින්ම ඉවත් කර සමුච්ඡේදනය කර මෝහයේ මුල් ගළවා දමා නැවත කිසිම දිනක කිසිම ආකාරයකින් මෝහය මතු නොවන ලෙසින්ම චිත්ත පාරිශුද්ධිය ලබාගත හැකි ආකාරයේ අරිය සමාධියකි. බුදු මඟෙහි පෙන්වූ අරිය සීලය සේම අරිය සමාධිය, වෙනත් කිසිම ආගමක, දර්ශනයක භාවිතා නොවන ආකාරයේ ගාම්භීර සමාධියකි. මේ අරිය සීලය අරිය සමාධිය මෙන්ම අරිය අෂ්ටාංගික මාර්ගය ද උතුම් පරම පවිත්‍ර බුද්ධ ධර්ම මාර්ගයේම මිස වෙනත් කිසිම ආගමක භාවිතා විය හැකි දෙයක් නොවේ. මෙවැනි අරිය ධර්මයක්, අරිය විනයක්, අරිය සමාධියක්, අරිය සීලයක්, අරිය අෂ්ටාංගික මාර්ගයක් ලෝකෝත්තර නිවන සඳහාම මඟ පෙන්වන උතුම් ධර්මයක් පවතින්නේ බුද්ධ ධර්මය තුළම පමණි. එවන් බුද්ධ ධර්මය රැකගෙන පවත්වාගෙන දිගින් දිගටම රැගෙන යන බලවේගය බුද්ධාගමයි. ඒ නිසා අද පවතින බුද්ධාගමේ භාවිතා වන්නේ අදට ගැළපෙන ලෙසින් සාදා සකස් කරගත් සීල, සමාධි, ප්‍රඥා යන ලෞකික සම්මත ධර්මයන් කොටසකි. මේ සම්මතය තුළම ඇති පරමාර්ථ ධර්මයන් තේරුම්ගත් කෙනෙකුට පමණක් නිවන් දැකීමට උපකාර වන්නා වූ තිපරිවට්ටය ම අදටත් දැක ගැනීමට හැකියාව ලැබේ.

මේ අනුව අරිය සමාධියක් තුළින් ලබන්නා වූ "අකුප්පා චේතෝ විමුක්තියත්"

ලෞකික සමාධියකින් ලබාගත හැකි චේතෝ විමුක්තියත් යනු එකම ආකාරයේ විමුක්ති නොවේ. පළමුවන ධ්‍යානයේ සිට නේවසඤ්ඤානාසඤ්ඤා යන අට වැනි ධ්‍යානයන් දක්වාම අනරිය සමාධි මෙන්ම අරිය සමාධි යන දෙකොටසක්ම පවතින බව පැහැදිළිවම තේරුම් ගත යුතුයි.

බුදුපියාණන්වහන්සේ බෝසත් සිද්ධාර්ථයන් ලෙස බුදුවීමට පෙර හය වසරක් පුරාම නොවිඳිනා දුක් විඳ සියල්ල අත්හරිමින් සම්පූර්ණ කර ගත්තේ ද අරිය නොවන අනරිය ධ්‍යානයන්මයි. උද්දකරාම පුත්‍ර, ආලාර කාලාම වැනි එවකට චිර ප්‍රසිද්ධව සිටි ඉසිවරුන් වෙතට ගොස් ඔවුන්ගේ උපදෙස් අනුව දුෂ්කර ක්‍රියා කරමින් ධුතාංග රැක අනරිය වූ අට වැනි ධ්‍යානය නේවසඤ්ඤානාසඤ්ඤා ධ්‍යානයද තෙක්ම බෝසත් තවුසන්වහන්සේත් ධ්‍යානයන් ලබා ගත්හ. නමුත් උන්වහන්සේ සොයන්නේ ලෞකික ධ්‍යාන සුවයක් නොවන බවත් තමන් සොයන ලෝකෝත්තර නිවන මේ අනරිය ලෞකික ධ්‍යානවල නොමැති බවත් ඒවා තාවකාලික බවත් ඒවායේ විද්‍යා විමුක්තිය, ප්‍රඥා විමුක්තිය නොමැති බවත් දැනෙන විට අතීත බුදුපියාණන්වහන්සේලාගෙන් අසා දැන තිබූ අරිය ආනාපානසතිය සිතේ මතු විය. මේ අතීත බුදුපියාණන් වහන්සේලාගෙන් අසා දැන තිබූ අරිය ආනාපානාසතිය තමන්වහන්සේ මීට පෙර කිසිම දිනක ප්‍රායෝගිකව භාවනා කර "පස්සති" යන දැකීම ලබා නොතිබුණි. "ජානතෝ" යන දැනීම, ඥාණය පමණක් ලබා තිබුණි. ඒ නිසා සති කිහිපයකින්ම ජානතෝ යන අතීතයේ ලැබූ ඥාණය තුළින්ම "පස්සතෝ" යන ප්‍රඥාව (කුණු සළාහැර ශුද්ධ පවිත්‍ර වීම) උපදවා පහදා ගත්හ. එසේම පටිච්චසමුප්පාද ධර්මාවබෝධයද ලැබ ධම්මෝ සංදිට්ඨිකෝ වී පටිච්චසමුප්පාද ධර්මයේ තිපරිවට්ටයම පූර්ණ ලෙසින් ම අවබෝධ කරගත් පසුව අරහත් තත්ත්වයටම පත්වී සම්මා සම්බුද්ධ යන උතුම් තත්ත්වයට පත් වූහ. මේ අනුව ''ජානතෝ, පස්සතෝ, අරහතෝ, සම්මා සම්බුද්ධස්ස" යන පියවරයන් පිළිබඳව යථාපරිදි දැක දේශණා කර වදාළහ.

මෝහයේ මුල් සමුච්ඡේද වශයෙන්ම සිඳලීමට උපකාර වන්නා වූ කුසල මූල පටිච්චසමුප්පාද ධර්මයම තේරුම් ගෙන පසක්කර දැක, එය භාවිතා කරමින් අරහත් සම්මා සම්බුද්ධ තත්ත්වයට ම පත්වීම මෙහිදී විස්තර වේ. ඒ නිසාම බුදුපියාණන්වහන්සේ දේශණා කර වදාළේ,

''යෝ පටිච්චසමුප්පාදං පස්සති
සෝ ධම්මං පස්සති
යෝ ධම්මං පස්සති
සෝ මං පස්සති" යනුවෙනි.

මේ ප්‍රකාශයෙන් පැහැදිළි වන්නේ අරිය ධ්‍යානයක් ලබා ගැනීමටත් නිවැරදිවම උපකාර වන්නේ "පටිඉච්ච සං උප්පාද" යන බුද්ධ ධර්මය තේරුම් ගැනීම බවයි. පටිඉච්ච සමුප්පාද ධර්ම විග්‍රහයේත් තිපරිවට්ටයක්ම ඇත. එය පසුවට මෙහි විග්‍රහ කර තිබේ.

මිච්ඡා සමාධි, මිච්ඡා සමාධි බවත්, ඒවා අපායගාමී, දුගතියට පත් වන, පාපකාරී ඒවා බවත්, ඒ මිච්ඡා සමාධිවලින් වෙන් වී, යහපත් ලෞකික සමාධි ලබාගැනීම සුගතිගාමී බවත් සුගතියට පත්වීමට උපකාර වන බවත් පැහැදිළි විය යුතුයි. නමුත් බුද්ධ ධර්මය නම් උතුම්

නවලෝකෝත්තර සිරි සද්ධර්මයෙන් බුදුපියාණන් ලෝකයට පැහැදිළි කර දීමට අදහස් කළේ මිච්ඡා සමාධියෙන් වෙන් වී ලෞකික සමාධියට පත්වීමේ අනරිය ක්‍රමයක් නොවේ. එවන් අනරිය සමාධි එවකටත් ලෝකයේ බහුල ලෙසින්ම බොහෝ ආගම්වලත් දර්ශනවලත් භාවිතා වෙමින් පැවතුණි. ඒ නිසා "පුබ්බේ අනනුස්සුතේසු ධම්මේ" යනුවෙන් බුදුපියාණන් එදා ලෝකයාට අලුතෙන්ම හඳුන්වා දුන්නා වූ අරිය සමාධි, අරිය ධ්‍යානයන් මිස වෙනත් කිසිම අනරිය ධ්‍යානයක් ප්‍රඥා විමුක්තිය ලබා නිවන් අවබෝධය ලැබීම සඳහා උපකාර නොවන බව පැහැදිළිවම තේරුම් ගත යුතුයි. සමාධියේ, ධ්‍යානවල තිපරිවට්ටයක්ම ඇති බවත් අද වන විට අරිය සමාධි, අරිය ධ්‍යානයන් භාවිතයෙන් ඉවත් වී යටපත්ව ලෞකික සමාධි, ලෞකික ධ්‍යානයන් පමණක් භාවිතයේ ඇති බවත් පිරිසිදුවම තේරුම් ගත යුතු දෙයකි. අරිය ධ්‍යානයන් ලැබීම සඳහා අරිය ආනාපාන සතියම තේරුම් ගෙන බුද්ධ භාවනාවක් ලෙසින් ප්‍රගුණ කළ යුතුයි.

මෙම අරිය ධ්‍යානයන් යටපත් වී අනරිය ලෞකික භාවනා ක්‍රමයන් ලෝකයා අතරේ ප්‍රචලිත වීමට මුල් වූ හේතුව බුද්ධඝෝෂ හාමුදුරුවෝ බුද්ධ භාවනා අතරට අනරිය භාවනා ක්‍රමයන්ද හඳුන්වා දී සම සතළිස් භාවනා ක්‍රමයක් ලෙසින් හඳුන්වා දීමයි. සෑම බුද්ධ භාවනාවක්ම සතර සතිපට්ඨානය කරාම කෙනෙකුන් යොමුවන "සති" භාවනාවකි. බුද්ධඝෝෂ හාමුදුරුවෝ "සති" භාවනා ක්‍රම දහය අතරට තවත් භාවනා ක්‍රම, සමථ භාවනා තිහක් ද එකතු කර තමා ලියූ පොත්වලින් ලියා එළි දැක් වූ පසුව අද දක්වාම ලෝකයා භාවිතා කරන්නේ බුද්ධ භාවනා ක්‍රමයන් නොව විශුද්ධි මාර්ගයේ පෙන් වූ සමථ භාවනා ක්‍රමයන් පමණි. ඒ නිසා අද සිය දහස් ගණන් භාවනානුයෝගීන් භාවනා ප්‍රගුණ කරන භාවනා මධ්‍යස්ථානවලදී ඒ අයට ලබාදෙන කර්මස්ථාන විපස්සනා භාවනාවක් ලෙසින් හෝ අනුපස්සනා භාවනාවක් ලෙසින් හෝ භාවනා කළ හැකි යැයි අනුමානයෙන්වත් සිතා ගත නොහැකියි. ඊට හේතුව විපස්සනා භාවනාවක් කිරීමට හා අනුපස්සනා භාවනාවක් කිරීමට නම් ද්වතාව, තිපරිවට්ටය හා ත්‍රිලක්ඛණය යන ධර්ම නිවැරදිවම දැනගත යුතු වීමයි. නිවැරදිව අසා දැනගත් ධර්මය තමා තුළින් ම අත්දැක ගැනීමට (පස්සති) නම් ද්වතාව හා ත්‍රිලක්ඛණයත්, තිපරිවට්ටයත් මනසින්ම දැකගත යුතුමයි. මේවා වෙන්කර දැකගන්නා තුරු සළාහැර ඉවත් කළ යුතු කුණු කෙළෙස් කළු ධර්ම තමාම තුළම ඇති බව දැක ගත නොහැකියි. මේ කළු ධර්ම කුණු තමාම කවදා හෝ අතීතයේදී එකතු කර ගත් ඒවා බව තමන්ම දැක ගත් පසුව පමණක් ඒවා තමාටම සළාහැර දමා පිරිසිදු විය හැකි බවත් දැක ගත හැකි වේ. මේ දැකීම"සංදිට්ඨිකෝ" යනුවෙන් පෙන්වා වදාළ "දස්සනේන සම්පන්නෝ" වීමයි. "සම්මා දිට්ඨියට" පත් වීමයි. අරිය තත්ත්වයට පත් වීමයි. මේ අනුව අරිය මාර්ගයේ පෙන්වා වදාළ අරිය ධ්‍යානයන් හා ඊට පෙර පටන්ම භාවිතයේ පැවති අදටත් භාවිතා වන අනරිය ධ්‍යානයන් වෙන් කොට තේරුම් ගෙන සමාධියේ තිපරිවට්ටයම දැක ගත හොත් නිවන ද එතැන ම බව තේරුම් ගත යුතුයි.

## ප්‍රඥාව හා එහි තිපරිවට්ටය

ප්‍රඥාව යනු ඥාණයේ ප්‍රකෘති තත්ත්වයයි. මාගධී බසින් මේ සඳහා භාවිතා කළේ "පඤ්ඤා" යන පදයයි. පඤ්ඤා යන මාගධී පදයේ පස්සති, පජහති, පහානාති යනාදී ක්‍රියාකාරකම් සියල්ලම ක්‍රියාත්මක කිරීමේ ශක්තිය මිනිසෙකුට ලැබෙන්නේ ජානති,

පරිජානාති යන පදවලින් මාගධී බසින්ම පෙන්වා වදාළ ඥාණයන්, දැනුම් සම්භාරයක් නිසාමයි. එසේ නම් ඥාණය, නුවණ, දැනුම ආදී පදවලින් අර්ථ ගැන්වූ දැනීම හා පඤ්ඤා යන පදයෙන් අර්ථ ගැන්වූ දැකීම යන පද දෙකෙන් බුද්ධ භාෂිතයේ අදහස් කරන ලද අර්ථයන්, ධර්මයන් එකක් නොව දෙකක්ම වේ. "ජානතෝ - පස්සතෝ" යනු අවස්ථා දෙකකි. ඥාණය යනු බාහිර කෙනෙකුගෙන් අසා දැන, පොතපත කියවා, විශ්ව විද්‍යාලයකින්, ටියුෂන් පංතියකින් පවා ලබා ගත හැකි දෙයකි. ඥාණය දිනෙන් දිනම වෙනස් වන දෙයකි. විෂයානුබද්ධ දැනුමකි. මේ ඥාණයන් තම තමාගේ ම දැනීමේ ප්‍රමාණයට සීමා වේ. නවීකරණය වේ. පරණ මතිමතාන්තරයන් බිඳ වැටේ. මේ නිසා ඥාණයන් ලෞකික සංඛත ධර්මයන්ම වේ. පටිච්චසම්මුප්පන්න වේ.

නමුත් ප්‍රඥාව යනුවෙන් අදහස් කළ දැකීම තමන්ම තම ඥාණයේ ප්‍රමාණයට ලබන දැකීමයි. ඥාණය පදනම් කර ලබාගත් ප්‍රඥාව වෙනස් වන ස්වරූපයේ දෙයක් නොවේ. එය කාගෙන්වත් බාහිර පුද්ගලයෙකුගෙන් ලබා ගත හැකි දෙයක්ද නොවේ. තමා ලැබූ දැනුමේ ප්‍රමාණයට දැක ගත්තා වූ සත්‍යාවබෝධයයි. එය අවබෝධයක් හෝ බුද්ධිමත්භාවයක් හෝ නොවේ. ප්‍රඥාව යනුවෙන් අදහස් කරන සච්ඡිකිරියා තත්ත්වය කෙනෙකුට ලබාගත හැකි වන්නේ තමන් ධර්මය අසා ලබාගත් දැනුම විපස්සනා නුවණින් භාවිතා කර කළු ධර්ම හා සුදු ධර්ම වෙන් කර දැක ගැනීම පළමු පියවර ලෙසත්, විපස්සනා නුවණින් කළු ධර්මයන් ප්‍රහාණය කර චිත්ත පාරිශුද්ධිය විමුක්ති ඥාණ දර්ශනය දෙවන පියවර ලෙසත් ලබා ගැනීමෙනුත් පමණි. එසේ නම් "ප්‍රඥාව" යන පදයෙන් අදහස් කරන ලද දැකීම ලබා ගත හැකි වන්නේ රාග, ද්වේෂ, මෝහ යන කළු ධර්මයන් තම චිත්තසංථානයෙන් ඉවත් කර ප්‍රහාණය කර බැහැර කර පිරිසිදු කිරීමේ ප්‍රතිඵලයක් ලෙසින්ම තම මනස ප්‍රකෘති තත්ත්වයට පත් කිරීමෙනි. ඒ නිසාම ප්‍රඥාව ලබා ගැනීමට සම්මා දිට්ඨි, සම්මා සංකප්ප ආදී වශයෙන් ප්‍රකාශ කරන ලද අරිය අෂ්ටාංගික මාර්ගයම පූර්ණ කර ගැනීම අනිවාර්යය වේ.

මේ ආකාරයෙන් ප්‍රඥාව ලෙසින් ප්‍රකාශ කරන ලද සම්මා අෂ්ටාංගික මාර්ගයේ ද තිපරිවට්ටයක්ම විග්‍රහ වේ.

1. මිච්ඡා අෂ්ටාංගික මාර්ගය
2. ලෞකික අෂ්ටාංගික මාර්ගය (සම්මා අංග ලෞකික වශයෙන්)
3. අරිය අෂ්ටාංගික මාර්ගය (සම්මා වශයෙන්)

| | | | | | |
|---|---|---|---|---|---|
| 1. | මිච්ඡා දිට්ඨි | 2. | මිච්ඡා සංකප්ප | 3. | මිච්ඡා වාචා |
| 4. | මිච්ඡා කම්මන්ත | 5. | මිච්ඡා ආජීව | 6. | මිච්ඡා සති |
| 7. | මිච්ඡා වායාම | 8. | මිච්ඡා සමාධි | | |

යනුවෙන් පෙන්වූයේ මිච්ඡා අෂ්ටාංගික මාර්ගයයි. මේ මිච්ඡා අෂ්ටාංගික මාර්ගය අනුගමනය කරන පුද්ගලයා අපායගාමී පුද්ගලයෙකි. ඔහු පින් පව්, කුසල් අකුසල් විශ්වාස නොකරයි. මව්පියන් පිළිබඳව විශ්වාස නොකරයි. පරලොවක් පිළිබඳව විශ්වාස නොකරයි. කර්ම විපාක ගැන විශ්වාස නොකරයි. බුද්ධ, ධර්ම යන රත්න දෙක මෙන්ම මහණ බමුණන් උතුමන් හෝ සංඝ යන අරහතුන් වහන්සේලා ගැන හෝ විශ්වාස නොකරයි. ඔහු මිච්ඡා දිට්ඨිකයෙකි.

මේ මිච්ඡා දිට්ඨි, මිච්ඡා සංකප්ප ආදී මිච්ඡා අංග අටෙන්ම වෙන් වූ පුද්ගලයා ලෞකික සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි යන ලෞකික සම්මා අංගයන් දැන ලෞකික අංගයන්ට පත් වූ අයෙකි. මෙවන් පුද්ගලයා මිච්ඡා අංගවලින් වෙන් වූ ලෞකික සම්මා අංගයන් අනුගමනය කරන්නෙකි. ඔහු සුගතිගාමියෙකි. අපායගාමී ක්‍රියාවලින් තාවකාලිකව මිදුණු කෙනෙකි. හොඳ, යහපත්, නිවැරදි ලෞකික දිවි පෙවෙතක් සඳහා කටයුතු කරන යහපත් පුද්ගලයෙකි. මේ ලෞකික සම්මා අංගයන් සුගතිගාමී සංසාර ගමනකට ම පමණක් මිස නිවනට නම් ප්‍රමාණවත් නොවේ.

නිවනට නිවැරදිම මාර්ගය සම්පූර්ණ කර ගත හැකි වන්නේ ලෝකෝත්තර සම්මා අංගයන් අට වූ අරිය අෂ්ටාංගික මාර්ගයම දැක එය සම්පූර්ණ කර ගැනීමෙන් පමණි. අරිය අෂ්ටාංගික මාර්ගය හා ලෞකික සම්මා අංගයන් අට එකක් ලෙසින් ම බොහෝමයක් බෞද්ධයින්, දේශකයින් වහන්සේලා මෙන් ම උගතුන් පවා අද වැරදි ලෙසින්ම ලෝකයාට විග්‍රහකර පෙන්වා දෙති. ඒ අය අෂ්ටාංගික මාර්ගයේ තිපරිවට්ටය පිළිබඳව යථාවබෝධයකින් තොරව මෙවැනි වැරදි චිත්‍රයක් අනුමානයෙන් ලෝකයාට මවා පෙන්වති. බුද්ධ ධර්මය පිළිබඳව නිවැරදි අවබෝධයක් නොමැති බොහෝ බෞද්ධයින් ද, උගතුන් ද හොඳ, යහපත්, නිවැරදි ලෞකික සම්මා අංගයන් අටක් ගැන මිස, අරිය අෂ්ටාංගික මාර්ගයේ පෙන්වා වදාළ ලෝකෝත්තර අරිය මාර්ගය වූ සම්මා අංග අටක් පිළිබඳව අසා දැන ගෙන පවා නොමැත. මේ නිසා හැම කෙනෙකුම හොඳ සිහියෙන් යුතුව තේරුම් ගත යුතු වන්නේ මෙම අෂ්ටාංගික මාර්ගයේද තිපරිවට්ටයක්ම ඇති බව හා තිපරිවට්ටයම තේරුම් නොගත් කෙනෙකුට නිවනක් ගැන කල්පනා කළ නොහැකි බවයි.

මිච්ඡා අංගවලින් මිදී ඉන් වැළකී ලෞකික සම්මා අංග කරා පළමු කොටම පැමිණිය යුතුයි. ඒ ආකාරයෙන් මිච්ඡා අංගයන්ගෙන් මිදී ඉන් වැළකී ලෞකික සම්මා අංගයන් අනුගමනය කිරීම නිසා අපායගාමී ක්‍රියාමාර්ගයෙන් වෙන් වී සුගති ලෝකයන් කරා යෑම නම් සිදු වේ. නිවන යනු සුගති දුගති යන අන්ත දෙකෙන් ම සහමුලින්ම මිදී සංසාර ගමනෙන් සදහටම මිදී නිදහස් වීමකි. නිවන සඳහා ලෝකෝත්තර අරිය අෂ්ටාංගික මාර්ගයම අනුගමනය කළ යුතුයි.

අෂ්ටාංගික මාර්ගයේ පළමු වැනි අංගය වූ සම්මා දිට්ඨි යන්නෙහි තිපරිවට්ටයක්ම ඇත.

1. මිච්ඡා දිට්ඨි 2. සම්මා දිට්ඨි 3. අරිය සම්මා දිට්ඨි

යනු මේ තිපරිවට්ටය යි. මිච්ඡා දිට්ඨි යනු වැරදි දැකීමයි. වැරදි දැකීමෙන් වෙන් වී, ඉන් මිදී, යහපත් දැකීම ලෞකික සම්මා දිට්ඨිය යි. ලෞකිකත්වයෙන් සහමුලින් ම මිදී නිදහස්ව ලෝකෝත්තර අරිය මාර්ගයට අවශ්‍ය සම්මා වීම නිවනට මඟයි. ධර්මය අසා, හේතුඵල දහමට බහා ගළපා බලා "සං" උපදින අයුරු තේරුම් ගෙන "සං" නිරෝධ කර සමුදය නිරෝධ කරගත හැකි බව දැකගත් පුද්ගලයා "ධම්මෝ සංදිට්ඨිකෝ" තත්ත්වයට පත් වූ පුද්ගලයෙකි. එසේ සං දැකගත්, සං නිරෝධ කරගත හැකි බව දැනගත් ඒ සඳහා නිවැරදි ආකාරයෙන් කුසලමූල පටිච්ච සමුප්පාද ධර්මය භාවිතය තුළින්ම "සං" සමුච්ඡේදනය කර උදුරා දමා ඉවත් කළ හැකි බව දැකගත් පුද්ගලයා ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් වූ

අරිය උතුමෙකි. ඔහු සම්මා දිට්ඨියේ තිපරිවට්ටය මෙන්ම, අරිය අෂ්ටාංගික මාර්ගයේම තිපරිවට්ටය ද යථා පරිදි අවබෝධ කරගත් නිවන් මාර්ගය පුරණ පුද්ගලයෙකු බවට ම පත් වේ.

මේ අනුව අද භාවිතාවන බුද්ධාගමේ සම්මා දිට්ඨියේ පටන් සම්මා සමාධි දක්වාම ලෝකයාට පෙන්වා දෙනු ලබන්නා වූ සම්මා අංග අටම ලෞකික සම්මා අංගයන් බව තේරුම් ගත යුතුයි. මේ ලෞකික සම්මා අංගයන් හොඳ, යහපත්, නිවැරදි ජීවිතයක්, දෙව් මිනිස් සැප සම්පත් ලැබීමේ ක්‍රමවේදයක් විනා සංසාර දුකෙන් මිදී සදහටම දුකෙන් මිදී යන ලෝකෝත්තර නිවන් දැකීමේ ක්‍රමයක් නොවේ. ඒ අරිය සම්මා දිට්ඨිය දැකගත හැකි වන්නේ "සං" දේශණාවක් අසා "ධම්මෝ සංදිට්ඨිකෝ" වීමෙන්ම පමණක් බව හැම කෙනෙකුම නිවැරදිවම තේරුම් ගත යුතුයි. "සං" නොදුටු පුද්ගලයා අරිය සම්මා දිට්ඨිය ද නොදකියි.

මේ ආකාරයට සම්මා දිට්ඨියේ පටන් සම්මා සමාධිය තෙක්ම ඇති සම්මා අංග අට සඳහාම තිපරිවට්ටයක් දේශණා කර වදාරා ඇත. මේ පිළිබඳව විග්‍රහ කළ බුද්ධ දේශණාව වන්නේ මහාචත්තාරීසක සූත්‍රයයි. මහාචත්තාරීසක සූත්‍රයේ මිච්ඡා මාර්ගය, මිච්ඡා අංගයන් ලෙසත්, ලෞකික සම්මා අංගයන්, ලෞකික සම්මා අංගයන් ලෙසත් ලෝකෝත්තර අරිය අෂ්ටාංගික මාර්ගය නිවන් මඟ ලෙසත් ඉතාම පිරිසිදුවත් පැහැදිළිවත් මාගධී පාඨවලින් දේශණා කර වදාරා ඇත. නමුත් සිංහල පරිවර්තනය ඉතාමත්ම අපැහැදිළි වේ. මිනිසෙකුට, සිංහල උගතෙකුට පවා තේරුම් ගැනීමට නොහැකි තරමටම සිංහල පරිවර්තනයේ අර්ථ, ධර්ම, නිරුක්ති විකෘති වී ඇති නිසා නිවන් මඟ පහසුවෙන් කෙනෙකුට කියවා දැන ගැනීමට නොහැකි ලෙසින් ම වැසී යටපත් වී ඇත.

බොහෝමයක්ම දෙනා කල්පනා කරන්නේ දේශණා කරන්නේ පළමුවෙන්ම ලෞකිකත්වය යහපත් තත්ත්වයට පත්කර දෙවනුව නිවනට මඟ සළසා ගත යුතු බවයි. එසේ සිතූ නිසාම අද දහදුක් විඳිමින් ඔබ හැම දෙනාම මේ ආකාරයෙන් සංසාරේ අතරමං වී දුක් විඳිති. මේ බුද්ධෝත්පාද කාලයකි. උතුම් බුද්ධ ධර්මය නිවැරදිවම අනුගමනය කිරීමෙන් ලෝකෝත්තර නිවනට මඟ පෑදෙනවාත් සමඟම ඊට සමගාමීව නියත වශයෙන්ම අනිවාර්යයෙන්ම යහපත් ලෞකික දිවි පැවැත්මක් ඉබේම පිහිටන බවත් කවුරුත් තේරුම් ගත යුතුයි. මුලින් ලෞකික සැප සම්පත් විඳ ඊට පසු දෙවනුව නිවන් සැපයක් ගැන කල්පනා කිරීම වැරදි දෘෂ්ඨියක් පමණි.

දෙව් මිනිස් සැප කෙළවර නිවන් දැකීමට සෑම කෙනෙක්ම පතන්නේ පතන්නම පුරුදු වී ඇත්තේ මේ නොදැනුවත්කම හේතුවෙනි.

## පටිච්චසමුප්පාද ධර්මයේ තිපරිවට්ටය

නිවන් දැක ගැනීමට කෙනෙකුට නිවැරදිවම උපකාර වන උතුම් බුද්ධ දේශණාව පටිච්චසමුප්පාද දේශණාවයි. පටිච්චසමුප්පාද දේශණාව යන ධර්මය නිවන් දැක ගැනීමට උපකාර කරගත හැකි උපකාර වන උතුම් පරියාය බව දන්නා උගත් බෞද්ධයන් අද

ඉතාමත්ම විරලයි. පටිච්චසමුප්පාද දේශණාවෙන් විග්‍රහ කර පැහැදිළි කර පෙන්වා දිය නොහැකි කිසිම දෙයක් කිසිම සංඛත ධර්මයක් මේ පැවැත්ම තුළ නොපවතී. ඒ සියල්ලම සමුදය ධර්මයන්ය. නිවන නැමති එකම අසංඛත ධර්මය පවා පැහැදිළිව විග්‍රහ කර පෙන්වා වදාළේ පටිච්චසමුප්පාද ධර්මයේම තිපරිවට්ට විග්‍රහයෙනි. මේ නිසා පටිච්චසමුප්පාද ධර්මයේම සඳහන් තිපරිවට්ටයම පිළිබඳවත් කෙටියෙන් හෝ දැන ගත යුතුම වේ.

1. අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහය
2. අවිද්‍යාමූල පටිච්චසමුප්පාද නිරෝධ කිරීමේ ධර්ම විග්‍රහය
3. කුසලමූල පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහය

මේ අංග තුනම අඩංගු උතුම් බුද්ධ ධර්මය විභංගප්ප්‍රකරණය නැමැති ත්‍රිපිටක ග්‍රන්ථයේ ඉතාම පැහැදිළිව විස්තර සහිතවම දේශණා කර පෙන්වා දී ඇත. නමුත් අද වන විට කුසලමූල පටිච්චසමුප්පාද නිද්දේසය යන වැදගත්ම කොටස විග්‍රහ කර ලෝකයාට පැහැදිළි කර දීමට තරම් ධර්ම ඥාණයක් ඇති උගතුන් ලෝකයේ විරල වීමම, ලෝකෝත්තර නිවන් මඟ වැසී යටපත් වීමට මූලිකම හේතුව බවට පත් වී ඇත. කුසලමූල පටිච්චසමුප්පාද විග්‍රහයෙන්ම ලෝකෝත්තර අරිය අෂ්ටාංගික මාර්ගයේ ඇතුළත් සියලුම පිළිවෙත් සම්පූර්ණ කර ගැනීමේ ප්‍රායෝගික ක්‍රියාමාර්ගය පැහැදිළි කර දේශණා කර පෙන්වා දී ඇත. කුසල මූල පටිච්චසමුප්පාද ධර්මය අද වැසී යටපත් වීමත් සමඟම "කුසල" යන පදයෙන් බුද්ධ භාෂිතයේ අදහස් කළ ධර්ම අර්ථයත්, නිරුක්ති අර්ථයත් දෙකමත් යටපත් වී "පින්කම්" කිරීමටම පමණක් ම මිනිසුන් යොමු වුණු බවත් අද නිවැරදිවම තේරුම් ගත යුතුයි. අද කුසලය හා පින පටලවා භාවිතා කරනු පෙනේ. අවිද්‍යාමූල පටිච්චසමුප්පාද දේශණාවෙන් බුදුපියාණන් දේශණා කර ලෝකයාට පැහැදිළි කර වදාළේ අවිද්‍යාවෙන් නොදන්නාකමෙන් ලෝකයා තණ්හාවෙන් තම කැමැත්තට බැඳී පටි ඉච්ච වී තමන්ගේම හිතට වහල් වී සංසාරයට බැඳී දිගින් දිගටම අතරමං වී සංසාර ගමනක යෙදෙන ආකාරය පෙන්වා දීමයි. එසේ නැතිව අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයේ නිවන් මඟක් පෙන්වා දී නැත. එහිදී පැහැදිළි කර ඇත්තේ නිවන වැසී ලෝකයා තමන්ගේ සංසාර ගමන නොනවත්වාම යමින් දුක් විඳීමට මුල් වූ හේතු කාරණා සමූහයක් පෙන්වා දීම පමණි.

එසේම අවිද්‍යාමූල පටිච්චසමුප්පාද නිරෝධගාමී මාර්ගයෙන් පෙන්වා වදාළේ ඒ අවිද්‍යාමූල ක්‍රියාපිළිවෙතින් ඉවත් වී සමුදය නිරෝධ කිරීමේ ක්‍රියාමාර්ගයයි. නිවන් අවබෝධය සඳහා මේ පියවර දෙකම දැන ගත්තද කුසල මූල පටිච්චසමුප්පාද විග්‍රහ නිර්දේශය නොදන්නා කෙනෙකුට ප්‍රායෝගිකවම එය අනුගමනය කිරීමට නොදන්නා කෙනෙකුට මෝහයේ මුල් ගළවා දමා කුණු සළාහැර සමුච්ඡේද වශයෙන් චිත්තසංථානය පාරිශුද්ධ තත්ත්වයට පත්කර නිවන පූර්ණය කර ගැනීමට හැකියාවක්, දැනීමක් නොමැත්තේය. තම චිත්තසංථානයේ අනන්ත අප්‍රමාණ කාලයක සිට ගබඩා කර මුල් බැසගෙන පවතින්නා වූ රාග බව - රාග මුල්, ද්වේෂ බව - ද්වේෂ මුල්, මෝහ බව - මෝහ මුල් මුළින් උපුටා දමා චිත්තසංථානය පාරිශුද්ධ තත්ත්වයට පත්කර සියලු විඤ්ඤාණ බීජ ප්‍රහාණය කර දමා චිත්තසංථානය කෙළෙස්වලින් හිස් කරගත හැකි වන්නේ මිනිසෙකුට

පටිච්චසමුප්පාද දේශණාවෙන් පෙන්වා වදාළ තිපරිවට්ටයමත් නිවැරදිව තේරුම් ගෙන අනුගමනය කිරීමෙන් ම පමණක් බව සියල්ලන්ම තේරුම් ගත යුතුයි. මේ සඳහා කුණු මුල් ගළවා දැමිය යුතුයි.

අරිය අෂ්ටාංගික මාර්ගයේ පෙන්වූ ලෝකෝත්තර අරිය මාර්ගය නිවැරදිවම තේරුම් ගෙන තමාගේම චිත්තසංථානයේ කාලයක් මුළුල්ලේම තැන්පත් වී, ගබඩා වී පැවති අදටත් පවතින රාග, ද්වේෂ, මෝහ "භව" සහමුළින්ම උදුරා දමා පටි+ඉච්ච තත්ත්වයෙන් නිදහස් වීමට නම් පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයේ පෙන්වා වදාළ තිපරිවට්ටයම තරමක් දුරට හෝ තේරුම් ගත යුතුයි. මේ පටිච්චසමුප්පාද ධර්මය යනු ඕනෑම මිනිසෙකුට තේරුම් ගත හැකි ඉතාමත් සරළ ධර්මයකි.

## මෙත්තා භාවනාව

කවුරුත් අද බහුල ලෙසින්ම දෛනිකව භාවනා කරනු ලබන්නා වූ මෙත්තා කර්මස්ථානවල ද තිපරිවට්ටයක් ම ඇති බව නිවැරදිවම තේරුම් ගත යුතුයි.

1. අපායගාමී වන ද්වේෂ සහගත යැදීම්, පළි ගැසීම්, ශාප කිරීම්
2. සුගතිගාමී ලෞකික මෙත්තාව
3. ලෝකෝත්තර අප්‍රමාණ මෙත්තා, අරිය මෙත්තා භාවනාව

1. සිතින් චිත්ත ශක්තියක් මතුකර සිතින් හෝ පදවැල් ලෙස හෝ වචන ලෙස හඬ නගා හෝ ප්‍රකාශ කරන බොහෝ දේ චිත්ත සංඛාර ලෙසින්ද තමා තුළම ක්‍රියාත්මක වේ. ද්වේෂයෙන්, වෛරයෙන් තවත් කෙනෙකුට ශාප කිරීම, පළි ගැසීම, යාඥා කිරීම, කන්නලව් කිරීම වැනි දේ සිතින්ම කරන ක්‍රියාවන්ය. මේ ක්‍රියාවන් කිරීමේ ප්‍රතිඵලය වන්නේ පළමු කොටම තමාගේම සිත ද්වේෂයෙන්, වෛරයෙන්, මෝහයෙන් කිළිටි වීමයි. ඒ කිළිටි සිතින් කරනු ලබන ශාප කිරීම නිසා තවත් බාහිර කෙනෙකුගේ පාපයක් එල දීමට ඇති නම් එම ශාපය ඒ බාහිර අය කරා යා හැකියි. එවැනි බාහිර කෙනෙකු එම ශාපය භාර නොගත්තොත් බාහිර අය මෙත් සිතින්ම ඒවා බැහැර කළොත් ශාප කළ තමන් කරාම නැවත ආපසු එය පැමිණීමට හැකිය. ඒ නිසා මෙවැනි වෛරී සිතකින් ශාප කිරීමේ නියත ප්‍රතිවිපාකය වන්නේ ශාප කළ පුද්ගලයාගේ ම සිත කිළිටි වී මෝහය වැඩි දියුණු වී අපායගාමී බවට පත් වීමයි.

2. ලෞකික වශයෙන් මෙත් කිරීම, මෙත්තා භාවනාවක් වැඩීමේ ක්‍රමයක් ද අද බහුල ලෙසින්ම බොහෝමයක්ම බෞද්ධයින් අතරත් ක්‍රියාත්මක වේ. "මම නිදුක් වෙම්වා, මම නීරෝගි වෙම්වා, මම සුවපත් වෙම්වා, මම නිවන් දකිම්වා, මගේ ගෙදර අයට, මගේ ගමේ අයට, මගේ සතුරන්, මිතුරන්'' ආදී මට සම්බන්ධ සියලු අයට මෙත් කිරීමේ මෙම ක්‍රමය ලෞකිකයි. මෙතැනදී මෙත් වඩන්නේ අනවබෝධයෙන්ම යි. මේ මම, මගේ යන ශරීර කූඩුව

විඤ්ඤාණයට පදිංචි වීමට තාවකාලිකව සාදා ගත් කුඩුවකි. එවැනි කුඩුවකට මෙත් වැඩීමේ ඇති ඵලය කිසිවෙකුට සිතා ගත නොහැකි නිසා අද මේ ආකාරයට මෙත්තා භාවනාවක් වඩයි. මේ කුඩුව කෙතරම් නිරෝගී වේවා, නිදුක් වේවා, සුවපත් වේවා යනුවෙන් කුඩුවට දිනපතාම මෙත් වැඩුවත්, මරණය කරා යන නියත ගමනක යෙදී සිටින විපරිණාමයට පත්වන මැරී විනාශවන සංඛතයකි. ඒ ආකාර වූ කුඩුවලට මෙත් වැඩීමෙන් ඇති වන ප්‍රතිඵලය නිවනකට හේතු නොවේ. කුඩුවට තව තවත් ඇලීමට බැඳීමටම එය හේතු පාදක වේ.

මේ ආකාරයට මට, මගේ අයට, අපේ අයට කරන මෙත් වැඩීම කිසිවිටකත් අප්‍රමාණ මෙත් වැඩීමක් නම් නොවේ. ඒ නිසා මෙත්තා භාවනාවකත් තිපරිවට්ටයක්ම ඇති බව දැන අප්‍රමාණ මෙත් වැඩීම සඳහා පරම මෙත්තා, අරිය මෙත්තාව තම සිත තුළින්ම මතුවන ලෙසට මෙත්තා භාවනා කර්මස්ථානයක් නිතර නිතර භාවනා කිරීමට පුරුදු පුහුණු විය යුතුයි.

මම ද සියලු ලෝක, සියලු සත්ත්වයෝ,
සතර අපා දුක තෙක් ඇති සියලු දුකින් මිදී
සෝවාන් ඵලයෙන් නිදුක් වෙත්වා!
කාම රාග පටිඝ ආදී රෝගයන්ට මුල් වන
සියලු කරුණුවලින් මිදී සකෘදාගාමී
ඵලයෙන් නීරෝගි වෙත්වා!
නිරාමිස සුවයෙන් අනාගාමී ඵලයට පත් වී
අනාගාමී සුවයෙන් සුවපත් වෙත්වා!
සඳහටම සංසාර දුකින් මිදී නිදහස් වන
අරහත් ඵලයෙන් දුකින් මිදෙත්වා!
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා!!!

යන මෙම අරිය මෙත්තා කර්මස්ථානයෙන් තමා ද අනෙකුත් සියලු සත්ත්වයෝ ද සියලු ලෝකද සම තත්ත්වයක ලා සළකන නිසා අප්‍රමාණ මෙත්තාව සිතේ වැඩෙයි. ලෝකෝත්තර නිවනම අරමුණු කර මෙත් වැඩීම නිසා, මම, මගේ ආදී සීමාවන්ට, සම්බන්ධතාවලට බැඳීමක්ද සිදු නොවේ. ඒ නිසා එය ශරීර කුඩුවකට කරන මෙත් වැඩීමක් නොව, අනන්ත අප්‍රමාණ ලෝක සත්ත්වයා කෙරෙහි පතුරු වන සමමෙත පැතිරීමකි. පරම මෙත් වැඩීමකි.

මෙවන් මෙත් කර්මස්ථානයක් වැඩීමෙන්ම ප්‍රගුණ කිරීමෙන් ම පමණක් තම සිතෙහි මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා යන සතර බ්‍රහ්ම විහරණයම වැඩෙන නිසා මෙතෙක් සංසාරයේ කවදා හෝ අතීතයක එකතු කර ගත් ද්වේෂ ගති, වෛර ගති, සහමුළින්ම ගැළ වී ගොස් සමුච්ඡේද වශයෙන්ම ද්වේෂ බව ප්‍රහාණය වී චිත්තසංථානය පිරිසිදු වේ. සිත මෘදු වේ.

මෙවන් මෙත් භාවනාවක් දින කිහිපයක් භාවිතා කරමින් භාවනා කරන විට තමන්

නොදනුවත්වම තම සිත තුළම උපේක්ඛා ගුණය දියුණු වේ. උපේක්ඛා ගුණය සිත තුළ දියුණු වීමත් සමගම සතුරෙක්, මිතුරෙක්, මගේ කෙනෙක්, මගේ නොවන කෙනෙක් යන පක්ෂග්‍රාහී ලෙසින් හෝ පක්ෂපාතී ලෙසින් හෝ කෙනෙකුට විශේෂ සැළකීමක් හෝ වෙනසක් ඇති නොවේ. ඒ නිසා රාගයෙන් ඇලෙන ගති ලක්ෂණයෙන් ද තමන් මිදී නිදහස් වේ. මගේ කමට, යාළු කමට, අපේ කමට, හිතවත් කමට, නෑදෑ කමට මෙත් වැඩීම පරම මෙත් වැඩීමක් නොවේ. ඒ නිසා තමන්ට මෙන්ම සියලු සත්ත්ව සමූහයාටත්, සියලු ලෝක සත්ත්වයාටත් එක සමාන මෙත් සිත පැතිරවීමට හැකි තත්ත්වයට තමාගේම සිත මුදිතා තත්ත්වයට පත් කරගත හැකි වේ.

මේ අනුව පරම මෙත් වැඩීමම, සමස්ත ලෝක සත්ත්වයාටම වැඩිය හැකි වන්නේ මෙත් වැඩීමේ තිපරිවට්ටයම තේරුම් ගෙන මෙත්තා කර්මස්ථානයක් වැඩීමෙන්ම පමණක් බව තේරුම් ගත යුතුයි.

සීල, සමාධි, ප්‍රඥා භාවනා හා පටිච්චසමුප්පාද ධර්ම පරියායේ තිපරිවට්ටයම තේරුම් ගත් කෙනෙකුට වඩාත්ම වැදගත් වන ආකාරයෙන් චතු අරිය සත්‍යයෙහි ද අඩංගු තිපරිවට්ටයම අවබෝධ කරගැනීමට හැකිය. ධම්මචක්කපවත්වන සූත්‍රයේ සඳහන් ''තිපරිවට්ටං ද්වාදස ආකාරං" යන මෙම තිපරිවට්ටය දුක්ඛ, දුක්ඛ සමුදය, දුක්ඛ නිරෝධය, දුක්ඛ නිරෝධගාමී මාර්ගය යන කරුණු සතරක් පිළිබඳවත් තිපරිවට්ටයක් ම ඇති බව ප්‍රකාශ කරන ලද තැනකි.

දුක්ඛ අරිය සත්‍යය පිළිබඳව පරීක්ෂණය, නිරීක්ෂණය, නිගමනය යන තිපරිවට්ටය ද යථාභූත ඥාණයෙන් ම දැක ගත යුතුයි.

1. සැපයක් යනු සිතේ මතු වූ කැමැත්තට බැඳීමයි - පටිඉච්ච වීමයි
2. කැමැති දේ කැමැත්ත පරිදි එක දිගටම නොපවතියි (අනිච්චයි)
3. යමක් තමා කැමති පරිදි නොපැවතීම, සිදු නොවීම දුකයි.
   (සැපයි සිතා සිටි දේ ඒ ආකාරයෙන් ම නොපවතින ස්වභාවය දුකයි)

මේ ආකාරයෙන් සිතේ කැමැත්තක් ඇති වීමත් රූපය, ඇස, චක්ඛු විඤ්ඤාණය එකට ස්පර්ෂ වී, වේදනාවක් බිහි වීමත්, වේදනාව සුව නම්, ඒ සුව බව, සැප බව තවත් මොහොතකින් වෙනස් වී, විපරිණාමයට පත් වී, කැමැත්තට විරුද්ධ වූ තත්ත්වයකටම පත් වන බවත් දැක ගත හැකි වේ නම් දුක්ඛ අරිය සත්‍යයේ තිපරිවට්ටයම කෙනෙකුට දැක ගත හැකියි. මේ යථා තත්ත්වය පරීක්ෂණය කර දැනගෙන, නිරීක්ෂණය කර දැකගෙන, නිගමනය කර තීරණය කිරීම දුක්ඛ අරිය සත්‍යය අවබෝධ වීමයි.

දුක්ඛ සමුදය සත්‍යයත් දුක්ඛ අරිය සත්‍යය ආශ්‍රයෙන් ම පරීක්ෂණය, නිරීක්ෂණය, නිගමනය යන තිපරිවට්ටයම තේරුම් ගෙන අවබෝධ කරගත යුතුයි. පටිච්චසමුප්පාද ධර්මය තේරුම් ගත් කෙනෙකුට "සංදිට්ඨිකෝ" යන තත්ත්වයට පත් වූ කෙනෙකුට තමන්ගේ ම හිතට අරමුණු වූ සිතුවිල්ලක් දිගේ සංඛාර කරමින් "සංපස්සජා වේදනා" තත්ත්වයට සිතින් ම පත් වී බිහි කරගන්නා "සමුදය" පිළිබඳව සත්‍යය යථාපරිදි දැක

ගැනීමටත් ලැබේ. පටිඉච්ච - සංඋප්පන්න ධර්මතාවය නිවැරදිව ම දැක ගැනීම මෙහිදී සමුදය අරිය සත්‍යය දැක ගැනීම ලෙස හැඳින්වේ. එනම් තමාගේ සිතම ක්‍රියාත්මක වී සමුදය ධර්මයක් බිහිකර ගන්නා ආකාරය පිළිබඳව සත්‍යය දැකීමයි. හේතුඵල දැකීමත් මේ සත්‍යය ම දැකීමයි.

දුක්ඛ නිරෝධ අරිය සත්‍යයේත් තිපරිවට්ටයක්ම ඇත. දුක්ඛ සත්‍යය, දුක්ඛ සමුදය සත්‍යය දැකගත් කෙනකුට ඊළඟට මේ දුක නිරෝධ කළ හැකි බව සමුදය නිරෝධ කළ හැකි බව (නිර්උදා) පරීක්ෂා කර දැනගත හැකියි. සංඛාර නිරෝධයේ සිට භව නිරෝධය දක්වා නව අවස්ථාවේදී ම නිරීක්ෂණය කර අරමුණ අත්හැර, අරමුණට නොබැඳී, පටිඉච්ච නොවී, මිදී නිදහස් විය හැකි බව තීරණය කර නිගමනය කිරීම මෙතැන තිපරිවට්ටයයි.

දුක්ඛ නිරෝධ ගාමිණී මාර්ගය මඟ වැඩීම යන අරිය සත්‍යයත් කුසල මූල පටිච්චසමුප්පාද ධර්මය භාවනා කිරීමෙන්ම භාවිතා කිරීමෙන්ම බහුලව භාවිතා කිරීමෙන්ම අෂ්ටාංගික මාර්ගය සම්පූර්ණ කර "සම්මා" තත්ත්වයට පත්වීම බව පරීක්ෂණයෙන්, නිරීක්ෂණයෙන් නිගමනය කර ප්‍රායෝගිකව ම සම්පූර්ණ කරගත යුතු දෙයක් බවත් අවබෝධ විය යුතුයි. මේ අරිය ඥාණයන් ගැන කථා කරන විට මේවා සත්‍යය ඥාණ, කෘත ඥාණ, කෘත්‍ය ඥාණ ලෙසත් සමහර තැනක පෙන්වා දී ඇත.

තවත් වැදගත් කාරණයක් සම්බන්ධයෙන් අවධාරණයෙන් පැහැදිළි කර දිය යුතුයි. දැනගන්නවාය යනු එකකි. දැනීමය යනු දැනගත්තාය යනු ඥාණයයි. දැකීමය යනු දැක ගත්තා යනු ප්‍රඥාවයි. "බුද්ධ දේශණාවේ ජානතෝ" යන පදයෙන් ප්‍රකාශ කර වදාළේ ඥාණය, දැනීම යන අර්ථයයි. පස්සතෝ යනු දැකීමයි. එසේ නැත්නම් ප්‍රඥාව යන අර්ථයයි. අරිය ශ්‍රාවකයෙක් වනුයේ යම් කෙනෙක් දැනුම ලබා ඒ දැනුම තුළින්ම දැකීමක් ලබාගත් අවස්ථාවේදීයි. ඥාණය නැත්නම් දැනුම ලබා ගත් පමණින්ම ධර්මය තුළින්ම දැක ගත හැකි "යථාවාදී තථාකාරී" බව "තථාවාදී තථාකාරී" බව දැකිය නොහැකියි.

මෙතෙක් "සංසාරයි" යනුවෙන් ඇති කර ගෙන තමා තුළම මුල් බැස ගෙන චිත්ත සංථානයේ ගබඩා වී පැවති දෘෂ්ඨිගත වීම් සියල්ලෙන්ම මිදී, දිට්ඨි ඕසවලින්ද මිදී සක්කාය දිට්ඨි, විචිකිච්චිතා, සීලබ්බතපරාමාස යන දෘෂ්ඨි තුනෙන් ම මිදී නිදහස් වූ කෙනෙකු ධර්මය දැකගත් පුද්ගලයෙක් බවට පත්වේ. දහම් ඇස "ධම්ම චක්ඛුං උදපාදි" වූ පුද්ගලයෙක් බවට පත් වේ. මේ නිසා ධර්මය අසා, ධර්මය දැන ගෙන, ඥාණය උපදවා ගත්ත ද ඒ ධර්මය අනුගමනය කර, කුණු සළාහැර "පඤ්ඤා උදපාදී" යන තත්ත්වයට පත් නොවූ කෙනෙකු, තවම ධර්මය තුළින් දැකගත යුතු, දැකගත හැකි අරිය සත්‍යයන් දැකගෙන නොමැත.

මේ අනුව ධර්මය දැක ගැනීම (පස්සතෝ) යනු අරිය තත්ත්වයටම පත් වීමයි. සක්කාය දිට්ඨි, විචිකිච්චිතා, සීලබ්බතපරාමාස යන දෘෂ්ඨීන් තුනෙන්ම මිදුණු පසුව දිට්ඨි ඕසවලින්, දිට්ඨාසවවලින්, දිට්ඨි අනුසයවලින්ද මිදී නිදහස් වීම "පස්සතෝ" යන ප්‍රඥාව උපදවා පහදා ගැනීමයි. මේ පැවැත්මේදී සංඛාර පැවැත්වීමෙන්, සංඛත හදමින්, සමුදය ධර්මයන් බිහිකර ගනිමින්, අතරමං වී, මංමුළා වී යන මේ සංසාර ගමන පිළිබඳව යථා තත්ත්වය දැක ගැනීම ප්‍රඥාව උපදවා, පහදා ගැනීම යන තත්ත්වයට පත්වීමයි.

මේ අනුව යම් කිසි කෙනෙකු පරම පවිත්‍ර සිරි සද්ධර්මය අසා සුතමයේ ඥාණයද ලබා සෝතාවදානේ පඤ්ඤා යන උතුම් තත්ත්වයට පත් වීමට නම් මේ ආකාරයෙන් බුද්ධ භාෂිතයෙහි පෙන්වා වදාළ සීල, සමාධි, අෂ්ටාංගික මාර්ග හා පටිච්චසමුප්පාද ධර්මයෙහිත් තිපරිවට්ටයම දැන, දැනගත් මඟ අනුගමනය කර, කුණු සළාහැර, ප්‍රඥාව උපදවා පහදා ගත යුතුයි. කුණු සළාහැර කෙළෙස් ප්‍රහාණය කර චිත්තසංථානය පිරිසිදු කර ගත් පමණට ම මනසේ ක්‍රියාකාරීත්වයන් දියුණු වී ප්‍රඥාව උපදී. ප්‍රඥාව යනු චිත්තසංථානයේ පිරිසිදු බව ඇති වූ තරමට ලැබිය හැකි යථාභූත විමුක්ති ඥාණ දර්ශනයයි. ලෝකය නිවැරදිව දැකගත හැකි ශක්තියයි.

බුදුපියාණන්වහන්සේ පන්සාළිස් වසක් පුරාම ලෝකයාට දේශණා කර වදාළ උතුම් පරම පවිත්‍ර බුද්ධ ධර්මය දේශණා කළේ සැප සම්පත්වලින් පිරි ලෝකයක් එවැනි සුගති ලෝකයක් හෝ තිර පැවැත්මක් දෙවි මිනිසුන්ට පෙන්වා දී එවැනි සැප සම්පත් පරිහරණය කිරීමට මඟ කියා දීමේ ක්‍රමවේදයක් ලෝකයාට පෙන්වා දීමට නම් නොවේ. දෙවි මිනිස් සැප කෙළවර නිවන් දැකීමක් බුදුපියාණන් කිසිම විටෙකත් අනු දැන වදාර නැත. මෙළොව මෙන්ම මතු උපදින පරලොවක් ද සැප සම්පතින් පිරි තැනක් බවට සුඛිත මුදිත තැනක් බවට පත් කර ගැනීමේ ලෞකික අදහසක් ළාමක පරමාර්ථයක් කිසිවිටකත් බුදුපියාණන් අනුදැන වදාළේ නැත. කුමන ආකාරයක හෝ සුගතියක දෙවි මිනිස් සැප ලබන තැනක උපත ලැබුණ ද නියත වශයෙන්ම ඒ උපතත් සමගම සියලු ආකාර වූ දුකක් ද උරුම වන බව ලෝකයාට පෙන්වා දී උපත සමඟ ම සංසාර දුක සමාජ දුක හා පැවැත්මේ දුකද උරුම වන බවත් පෙන්වා දී මතු උපතකින් බේරී නිදහස් වීමේ මාර්ගයම ලෝකෝත්තර ධර්මයම, ලෝකයාට දේශණා කර වදාළ සේක. යම් කිසිවෙක් යම් ආකාරයක සැපයක් මේ ලෞකිකත්වය තුළින් හෝ පරලෝකයක දී හෝ බලාපොරොත්තු වී කටයුතු කරයි නම්, පින් දහම් කරයි නම්, ඔහු නියත වශයෙන්ම ධර්මය දැක නොගත්, දුක උරුම කර ගැනීමටම කටයුතු කරන කෙනෙක් වේ. ධර්මය දැක නොගත් ඔහු සැපයට ලෝභ වී, අවිද්‍යාවෙන්ම ක්‍රියා කරන කෙනෙක් වේ. බුදුපියාණන් දේශණා කළ වදාළ උතුම් බුද්ධ ධර්මයේ තිපරිවට්ටය තේරුම් නොගත් කෙනෙක් වේ.

අද භාවිතයේ පවතින බොහෝමයක් ම ආගම්වල එකම උත්සාහය මෙළොව යහපත් තැනක් බවට පත් කිරීමට මිනිසුන්ට මඟ පෙන්වා දීම හෝ මතු උපදින තැන යහපත් සුරලොවක් බවට පත්කර ගැනීමට මඟ පෙන්වා දීමයි. සියලු වත්පිළිවෙත් රකින්නේ, සිල් රකින්නේ, භාවනා කරන්නේ, පින්කම් කරන්නේ මේ ලෞකිකත්වය තුළින්ම යම් සැපයක්, සුවයක් ලබා ගැනීමට හෝ මතු උපත ලබන තැනකදී එවැනි සැප සම්පත් ලබා ගැනීමේ හෝ ඒකායන අරමුණකිනි. මෙවැනි ළාමක අදහසක් බලාපොරොත්තුවක් ලෝකයා තුළ ඇති වීමට මූලිකම හේතුව තිපරිවට්ටය පිළිබඳව දැනුමක් නොමැති වීමයි. උතුම් බුද්ධ දේශණාවෙන් පෙන්වා වදාළ තිපරිවට්ටයම නිවැරදිව තේරුම් ගෙන ලෞකික සැප සම්පත් යනු මායාවක්, මුළා දර්ශනයක්, විඤ්ඤාණයේ ක්‍රියාත්මක වන සිතක උපදින ප්‍රිය මධුර අරමුණු සමූහයක් පමණක්ම බව සත්‍යය ලෙසින් තේරුම් ගෙන ප්‍රඥාවෙන් මේ සත්‍යය දැක ගැනීමෙන් ලෞකික තත්ත්වයෙන් මිදී නිදහස් වී ලෝකෝත්තර නිවනටම පත් විය හැකියි.

ඇත්ත ඇති සැටියෙන් දැන, නොඇලී, නොගැටී, නොබැඳී, මුළා නොවී අවංකවම විමුක්තිය සඳහා කටයුතු කරන මිනිසෙකු බවට පත්වීමෙන්ම එහි නියත අතුරු ප්‍රතිඵලයක් ලෙසින්ම ඔහුට මෙලොව යහපත් තැනක් බවට පත් කරගත හැකි වීම නියත ස්වභාවයයි. එලොව යහපත් තැනක්, නිදහස් තැනක් බවට පත් වීම ද එහි ම නියත ප්‍රතිඵලයකි. මේ අනුව නිබ්බානගාමී ක්‍රියාමාර්ගයක් අනුගමනය කිරීම හැම මිනිසෙකුගේම එලොව, මෙලොව දොලොවෙහිම නිරාමිස සුවයට හේතු වනු ඇති.

නමුත් අද ලෝකයේ ක්‍රියාත්මක වන සෑම ආගමකම මේ පරම සත්‍යය කණපිට පෙරළා, පළමු කොටම ලෞකිකත්වය සුවපත් කර, සැප සම්පත් විඳ ඒ සැප සම්පත් හරහාම නිවන් දැකීමටත් උත්සාහ දරණ ළාමක ක්‍රියාමාර්ගයක්ම අනුගමනය කරන බව පෙනේ. ලෝකයාටත් දේශණා කරනු ලබයි. අද බොහෝමයක්ම බෞද්ධයින් ද නිවන ප්‍රාර්ථනා කරමින් මේ උගුලට අසුවී, අතරමං වී සංසාර දුක උරුම කර ගැනීමේ ඒකායන මාර්ගයම ගමන් කරන බව යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන ඕනෑම මිනිසෙකුට දැක ගත හැකි සත්‍යයකි.

## ඥාණය හා ප්‍රඥාව

අවසාන වශයෙන් නිවන් අවබෝධ කර ගැනීමට නියත වශයෙන්ම උපකාර වන ඥාණය හා ප්‍රඥාව පිළිබඳව තිපරිවට්ටය පැහැදිළි කර දිය යුතු වේ.

1. අඥාණ චරියා (විඤ්ඤාණ චරියා)
2. ඥාණ චරියා
3. චරියා වවත්ථේන පඤ්ඤා

1. ධර්මය නොඅසා, ධර්මය නොදැන ඉන්ද්‍රියයන් පිනවීම සඳහාම කරනු ලබන රූපයට ඇලීම, රූපයට බැඳීම, අප්‍රිය රූප සමඟ ගැටීම, ප්‍රිය රූපවලට මුළා වීම, ප්‍රිය වේදනාවලට, සංඥාවලට, සංඛාරවලට, විඤ්ඤාණයට ඇලීම, බැඳීම හා ගැටීම මුළා වීම අඥාණ චරියාවයි. අනුවණ හැසිරීමයි. මේ අනුවණකම් නිසාම කරනු ලබන්නා වූ අපායගාමී ක්‍රියාවලියකි. ඒ නිසා අඥාණ චරියාවෙහි යෙදෙන පුද්ගලයා නියත වශයෙන්ම අපායගාමී වේ. ඔහු යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කිරීමට නොදන්නා පුද්ගලයෙකි. ඔහු අයෝනිසෝමනසිකාරයෙන් අඥාණ ක්‍රියාවල යෙදී අපායගාමී වේ. මේ සංවට්ට අවස්ථාවයි.

2. ඥාණයත් හා ප්‍රඥාව අතර ද වෙනස්කම් රාශියක් ඇත. ප්‍රඥාව මුල්කොට ගෙනම නිවන් දැකීමට උපකාර වන ඥාණයන් උපදවා ගත හැකියි. ඒ නිසා බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළ සියලුම ඥාණයන්, ප්‍රඥාවත් සමඟම සම්බන්ධ කර පෙන්වා තිබේ. "සෝතාවධානේ පඤ්ඤා සුතමයේ ඥාණං" යනු බුද්ධ ඥාණ වල පළමු වැන්නයි. ශ්‍රවණය කළ ධර්මය කෙරේ අවධානය යොමු

කරමින් යෝනිසෝමනසිකාරයෙන් ශ්‍රවණය කර, මනස මෙහෙයවා, පෙරාබලා පිරිසිදු කර නොගත්තේ නම් ඒ ඇසූ දෙය සුතමයේ ඥාණයක් නොවේ.

මේ අනුවම,

1. පරිඤ්ඤෙට්යේ පඤ්ඤා - දුක්ඛේ ඥාණං
2. පහානට්යේ පඤ්ඤා - සමුදයේ ඥාණං
3. සච්ඡිකිරියට්යේ පඤ්ඤා - නිරෝධේ ඥාණං
4. භාවනට්යේ පඤ්ඤා - මග්ගේ ඥාණං

යන මෙයින් පැහැදිළි වන්නේ දුක්ඛ, සමුදය, නිරෝධය හා නිරෝධ මාර්ගය ලෙසින් පැහැදිළි කරන ලද චතු අරිය සත්‍යයන් යථා පරිදි අවබෝධ කර ගැනීමේ දී ඥාණයන් හතරක් ලබා ගැනීමට ප්‍රඥාව භාවිතයෙන් හතර අවස්ථාවකදීම පිරිසිඳ දැක පරිඤ්ඤෙයිය ස්වභාවයට පිරිසිදු විය යුතු බවයි. මෙහිදී පිරිසිඳ දැක ගැනීම, පරිඤ්ඤෙයිය යන වචන වලින් පෙන්වා වදාළේ කෙළෙස් ප්‍රහාණය කර, චිත්ත පාරිශුද්ධ තත්ත්වයට පත් කරගත යුතු බවයි. මෙය සරළ බසින් ප්‍රකාශ කරනවා නම්, කෙළෙස් පිරුණු සිතක් මෝහයෙන් ක්‍රියාකරන තත්ත්වයක් මිස මනසින් ක්‍රියා කරන යෝනිසෝමනසිකරණය කිරීමට සමත් වූ සිතක් නොවන බවයි. රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කර කුණු සළාහැර අස්කර දැමීමෙන්ම (කුසලස්ස) මනස පිරිසිදු වේ. මෙසේ මනස පිරිසිදු කර ගැනීමේ ක්‍රියාවලිය "පඤ්ඤා" යනුවෙන් භාවිතා කළ ප්‍රඥාව උපදවා පහදා ගැනීම යන අදහසයි. මේ නිසා ප්‍රඥාව උපදවා පහදා ගැනීමට නම් මෝහය ඉවත් කර කෙළෙස් ප්‍රහාණය කර දමා චිත්තසංථානය පාරිශුද්ධ තත්ත්වයටම පත් කර ගත යුතුයි.

පඤ්ඤා ( ප්‍රඥාව ) යනු පිරිසිඳ දැකීමයි

ඥාණං (නුවණ) යනු නිවැරදි දැනීමයි.

අපට පොතක් කියවා ධර්ම දේශණයක් ශ්‍රවණය කර හෝ වෙනත් මාධ්‍යයකින් හෝ ලබාගත හැක්කේ ශුද්ධ පවිත්‍ර නොකළ දැනුමකි. ඒ දැනුම මුදලට, ටියුෂන් පංතියකින්, විශ්ව විද්‍යාලයකින් හෝ වෙනත් මාර්ගයකින් ද බාහිර ලෝකයෙන්ම ලබා ගත හැකියි. එය යහපත් හෝ අයහපත් හෝ දිවි පෙවෙතක් ගත කිරීම සඳහා උපයෝගි කර ගත හැකි ආකාරයේ රළු දැනුමකි. පොතක් කියවන, ධර්ම දේශණාවක් ශ්‍රවණය කරන සෑම පුද්ගලයෙකුටම ඒ අසා සිටින ධර්මය නිසා යම්කිසි දැනුමක් ද ලැබේ. නමුත් මේ ලබා ගත් දැනුම සිය දෙනෙකු පිළිබඳව සළකා බැලූ විට සිය ආකාරයකි. ඒ තමන් ලැබූ දැනුම එසේ නැත්නම් ඥාණය තමා තුළම ඇති වෙනත් අධ්‍යාත්මික සාධකයක් මත ප්‍රමාණාත්මක වශයෙන් හා ගුණාත්මක වශයෙන්ද වෙනස් වන නිසයි. තම තමන් තුළම පවතින අධ්‍යාත්මික සාධකය වූ ප්‍රඥා ශක්තිය අනුවම මේ ලබා ගන්නා, එකතු කර ගන්නා දැනුමේ ඥාණයේ ප්‍රමාණය හා ගුණය (Quality) තීරණය වේ.

මේ නිසා දැකීම හෙවත් ප්‍රඥාව (පඤ්ඤා) යන පදයෙන් බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ ධර්මතාවයත් දැනීම, ඥාණය හෙවත් නුවණ, උගත්කම යන පදවලින් පෙන් වූ ධර්මතාවයත් එකක් ම නොවේ. දෙයාකාර වූ අර්ථ දෙකකි.

පොත්පත් කියවා, වෙනත් මාධ්‍යවලින් හෝ වෙනත් කෙනෙකුගෙන් බාහිර වශයෙන් හෝ ලබා ගන්නා දැනුම තමාට යහපත් හෝ අයහපත් හෝ ප්‍රතිවිපාක ගෙන දීමට සමත් විය හැකිය. වෙනත් වචනවලින් කියතොත් ප්‍රඥාවෙන් තොර වූ ඥාණය, දැනුම බොහෝ විටම තමාවම අපායගාමී මාර්ගයට පත් කරන ආකාරයේ දැනුමක් විය හැකියි. සියලුම ආකාරයේ කපටි වැඩ, උපායශීලි ක්‍රියා, විනාශකාරී ක්‍රියා කරනු ලබන්නේ ද ප්‍රඥාවෙන් තොර වූ නමුත් දැනුමක් ඥාණයක් පමණක් ලැබූ පුද්ගලයින් විසින්මයි.

ඥාණයක්, දැනුමක් නොමැති තැනක ප්‍රඥාව නැමැති ශක්තිය ද උපදවා ගත නොහැකියි. මේ අනුව බුද්ධ භාෂිතයේ ප්‍රඥාව යනුවෙන් අදහස් කළ ධර්ම අර්ථය පිරිසිදීමකි. පිරිසිඳ දැකීමකි. පරිඤ්ඤයියං, පහානාති, තං පජානාති යන සියලුම මාගධී පදවලින් අර්ථ ගැන්වූයේ ප්‍රඥාවයි.

පස්සති (පිරිසිඳ දැකීම) යනුවෙන් ධර්ම විග්‍රහයේ භාවිතා කරන ලද පදය හැමවිටම භාවිතා කළේ යම් කිසි කෙළෙස් කොටසක් තම චිත්තසංථානය තුළින් ඉවත් කර ප්‍රහාණය කර බැහැර කර දැමීමේ ක්‍රියාකාරකමක් පෙන්වීමටයි. මේ බැහැර කළ යුතු ඉවත් කළ යුතු ප්‍රහාණය කළ යුතු සියලුම කෙළෙස් තම විඤ්ඤාණය විසින්ම කවදා හෝ අතීතයේ දී එකතු කර ගබඩා කරගත් තම දැනුම් සංභාරයටම අයිති ගතිගුණ නමින් අප ව්‍යවහාර භාෂාවේ හඳුන්වන කිළිටි ශක්තියකි.

මේ අනුව අසා දැනගත් දේ උගත් දේ, එකතු කරගත් දැනුම් සම්භාරය හැමවිටම නිවන් අවබෝධය සඳහා උපකාර නොවේ. බොහෝ විටම විඤ්ඤාණය විසින් එකතු කරගත් දැනුම් සම්භාරය නිවන වසා මුවහ කරන නීවරණ ධර්මයන් ම විය හැකියි. මහාචාර්යවරයෙකු, නවීන විද්‍යාඥයෙකු, උගතෙකු විසින් එකතු කරගනු ලැබූ දැනුම විෂයානු බද්ධයි. ඒ දැනුම, ඥාණය දිනපතා ම අලුත් කර ගත හැකි දියුණු කර ගත හැකි සංවර්ධනය කර ගත හැකි දැනුමකි. එය තමාගේ මෙන්ම ලෝක සත්ත්වයාගේ පොදු යහපතට මෙන්ම පොදුවේ අයහපතට ද හේතු කාරක විය හැකියි. විනාශකාරී යුද්ධායුධයක්, උපක්‍රමයක් සොයා දැන ලෝකයාට භාවිතය සඳහා ලබාදෙන කෙනෙක් එම විෂය පිළිබඳව දැනුමක් ලැබූ ඥාණවන්තයෙකි. ඔහුගේ මරණයෙන් පසුවත් වසර සිය දහස් ගණනක් යනතුරු ඔහු නිර්මාණය කර දුන් මේ විනාශකාරී ආයුධය ලෝකයාගේ විනාශය සඳහාම හේතු වේ. ඔහු එවැනි දැනුමක්, ඥාණයක් ලැබූවත්, ඔහුට ප්‍රඥාවක් නොතිබුණි. ඔහු කළ විනාශය ඔහුට දැක ගත නොහැකි විය.

යම් කෙනෙකුට ප්‍රඥාව (පිරිසිඳ දැකීම) උපදවා ගැනීමට නම් ඔහු හේතුඵල ධර්මතාවය පිළිබඳව ද යම්කිසි දැනීමක් ලබාගත යුතුමයි. මේ නිසාම බුද්ධ භාෂිතයේ ගෙන හැර දැක් වූ මේ ධර්ම පාඨය හොඳින් කියවා තේරුම් ගැනීමට උත්සාහ ගත යුතුයි.

"යෝ පටිච්චසමුප්පාදං පස්සති
සෝ ධම්මං පස්සති
යෝ ධම්මං පස්සති
සෝ මං පස්සති"

"පස්සති" යනු පිරිසිඳ දැකීමයි. ප්‍රඥාවයි. පිරිසිඳ දැකීම යනුවෙන් සිංහල භාෂා

ව්‍යවහාරයේ සඳහන් වචන සඳහා මාගධී භාෂාවේ භාවිතා කළ පදය, "පස්සති" යන පදයයි. පිරි+සිඳ දැකීම යනු අන්තවාදී බවෙන් මිදී, ප්‍රිය බවට (පිරියට) නොඇලී, නොබැඳී, අප්‍රිය බවට නොගැටී, මුළා නොවී උපේක්ඛාවෙන් ක්‍රියා කිරීමේ ශක්තියයි. හේතුඵල දහමට බහා ගළපා බැලීම මගින් ම පමණක් මේ පිරිසිඳ දැකීම සිදු වන බව සහතික කර දැක ගත හැකියි. පටි+ඉච්ච+සං+උත්පාද යන පදවලින් පෙන්වා වදාළ ප්‍රිය බව, කැමැත්ත සංසාර ගමනට මුලයි. සමුදය ධර්මයන් (සං+උපත) උපත ලබන්නේම ප්‍රියතාවයට බැඳීමෙනි. ප්‍රියතාවයට බැඳීම යනු පටි+ඉච්ච වීමයි. ඒ නිසා පිරිසිඳීම යනු ප්‍රිය අප්‍රිය යන අන්ත දෙකට ම නොබැඳී, නොඇලී, නොගැටී යමක් දැකීමයි.

පිරිසිඳ දැක ගන්නා කෙනෙකු තමා කරන, කියන, හිතන දේ නිසා බාහිර ලෝකයාට මෙන්ම තමාට ද උරුම වන්නා වූ ඵල විපාක දැක ගනී. පටිච්චසමුප්පාද ධර්මයට බහා බලා කටයුතු කිරීමේ ශක්තියක් නැති පුද්ගලයෙකුට ප්‍රඥාව ද නැති බව දැන් මනාව වැටහෙනු ඇති. මේ අනුව ප්‍රඥාව යනු අසා දැනගත් නුවණ, ඥාණය පිරිසිඳ දැකීමයි.

මේ අනුව දැනීම, ඥාණය, උගත්කම මෙන්ම බුද්ධිමත්කම ආදී සියලු පදවලින් හඳුන්වන ලක්ෂණයන් ලෞකික දෙයක්ම යි. එය අපායට යෑම මෙන්ම නිවනට යෑමටත් උපකාර වන හේතුවන දෙයකි. මේ උගත්කම, බුද්ධිය නිසාම යමෙක් මත්විය හැකියි. මානයෙන්, අස්මිමානයෙන්, මමත්වයෙන් මත්වන ස්වභාවය මාන මදයයි. උතුම් බුද්ධ ධර්මය අසා පටිච්චසමුප්පාද ධර්මයට බහා ගළපා පිරිසිඳ දැක ගැනීමට (පස්සති) හැකිවන පුද්ගලයෙකුට, තමන් ලැබූ ඥාණය පිරිසිදු කර නිවනට මඟ පාදා ගැනීමටත් උපකාර කරගත හැකියි. මේ නිසා පිරිසිඳ දැක ගැනීමේ ශක්තිය නමින් පෙන්වා දුන් ප්‍රඥාව යන්න ඥාණය යනුවෙන් පෙන්වා දුන් දැනුමට වඩා හාත්පසින් ම වෙනස් වූ දෙයකි. ශක්තියකි. ප්‍රඥාවෙන් තොර ඥාණය නිවනට උපකාර නොවේ.

ප්‍රඥාව නැමැති ශක්තියද සෑම මිනිසෙකුටම තමාටම උපදවා පහදා ගත හැකි ශක්තියකි. මේ සඳහා කළයුතු හා කළ හැකි එකම ක්‍රියාමාර්ගය, තමාගේම අධ්‍යාත්මය තුළ චිත්තසංථානය තුළ දීර්ඝ කාලයකම පටන් ගබඩා කර භාවිතා කරමින් සිටින කිළිටි ගති, රාග ගතිය, ද්වේෂ ගතිය, මෝහ ගතිය ප්‍රහාණය කර ඉවත් කර දමා චිත්තසංථානය පිරිසිදු කර ගැනීමයි. ආසවක්ඛය කිරීම ලෙසද බුද්ධ ධර්මයේ ඉතාම සරළ ලෙසත් පෙන්වා වදාළේ ද රාග බව, ද්වේෂ බව, මෝහ බව යන කෙළෙස් ගති ඉවත්කර ප්‍රහාණය කර අස්කර දැමීමයි. මේ ගති චිත්තසංථානය තුළ පවතින තුරු ප්‍රඥාවද මතු නොවේ.

මේ ආකාරයෙන් තමන්ම අතීතයේ කවදා හෝ කැමැත්තෙන්ම එකතු කර තමන්ගේම චිත්තසංථානයේ ගබඩා කර අදටත් භාවිතා කරන මේ කෙළෙස් ගති තමන් තුළම පවතින බව අසා දැනගැනීම ඥාණයකි. එසේ අසා දැනගත් පසුව ඒ කිළිටි ගති කෙළෙස් ගති ප්‍රහාණය කර දැමීමට ක්‍රියා කිරීම ප්‍රඥාවයි. "පස්සති" යන වචනයෙන් බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළ ප්‍රහාණය කිරීමේ හැකියාව, ශක්තිය ප්‍රඥාවයි. මේ කෙළෙස් තමන්ටම හා ලෝකයාටත් අහිතකර ආකාරයෙන්ම ඵලවිපාක ලබාදෙන බව නොදැනීම අඥාණකමයි. තමන්ව දුගතියට පත්වන්නට අපාගත වන්නට හේතුව මේ අඥාණකමයි. මේ අඥාණකම තම තමන්ම සාදාගත් දෙයකි.

ධර්මය අසා ඥාණය පහදා ගැනීම යනු අපාගත වීමට හේතුවන කරුණුත් නිවනට පත් වීමට හේතු වන කරුණුත් යන කාරණා දෙක කාගෙන් හෝ අසා දැන ගැනීම යි. මේ අපාගත වීමට හේතුවන කරුණු (කෙළෙස්) තමා තුළම පවතින බව දැන ගැනීම ඥාණයයි. මේ කරුණු අසා දැන ගත් පමණින්ම කෙනෙකු අපායෙන් මිදීම හෝ නිවනට පත් වීම හෝ සිදු නොවේ. අසා දැනගත් කරුණු කාරණා ආශ්‍රයෙන්ම තමා තුළ ම ගබඩා වී ඇති කෙළෙස්, ආසව ප්‍රහාණය කර බැහැර කර, (පස්සදි) තම චිත්තසංථානය කෙළෙස්වලින් තොර තැනක් බවට පත්කර ගැනීමේ ශක්තිය හැකියාව ප්‍රඥාවයි. මේ අනුව ඥාණය පරිවට්ටයකි. ප්‍රඥාව විවට්ටයකි. ප්‍රඥාවෙන් ශුද්ධ පවිත්‍ර කරගත් පසුව ඥාණය ද විවට්ට ඥාණ බවට පත් වේ. එවිට ඒ ඥාණය බුද්ධ ඥාණයකි.

මේ නිසාම බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළ නිවන් මඟ ප්‍රඥාවෙන්ම කළයුතු විවට්ට ඥාණ පහදා ගැනීමක් ලෙසින් ද පෙන්වා දිය හැකියි.

1. අධිපතත්තා පඤ්ඤා සඤ්ඤාවිවට්ටේ ඥාණං
2. නානත්තේ පඤ්ඤා චේතෝවිවට්ටේ ඥාණං
3. අධිට්ඨානේ පඤ්ඤා චිත්තවිවට්ටේ ඥාණං
4. සුඤ්ඤතේ පඤ්ඤා ඤාණවිවට්ටේ ඥාණං
5. වොස්සග්ගේ පඤ්ඤා විමොක්ඛවිවට්ටේ ඥාණං
6. තථට්ඨේ පඤ්ඤා සච්චවිවට්ටේ ඥාණං

මේ පියවර හයෙහි දීම ප්‍රඥාව යන ශක්තියෙන් අරමුණු පෙරා බලා මැන ශුද්ධ පවිත්‍ර කිරීමේ ආයුධයක් ලෙස ප්‍රඥාව ක්‍රියාත්මක වේ. මේ අවස්ථා හයේදීම "විවට්ට" යන අස් කිරීම, ප්‍රහාණය කිරීම ක්‍රියාත්මක කිරීමෙන්ම ඥාණයන් පිරිසිදු කරගත හැකිය.

1. ප්‍රඥාවේ ආධිපත්‍යය නොමැතිව සංඥා පිරිසිදු කර, පෙරා බලා, කෙළෙස්වලින් තොර වූ ඥාණයක් ඇති කරගත නොහැකියි. නිවනට බාධක වන රූප, ශබ්ද, ගඳ සුවඳ, රස, පහස, මතක සටහන් යන සියලු රාග සංඥා රාගයෙන් තොරවූ "විවට්ට" සංඥා බවට පත්වීමට ප්‍රඥාව උපකාර කරගත යුතුයි.

2. සිතේ මතුවන විතක්ක විචාරවල නානත්වය, ද්වතාව, තිපරිවට්ටය හා අවිද්‍යාමූල සංඛාර, කුසලමූල සංඛාර ආදියේ නානත්වය දැක චේතෝ විමුක්තිය සඳහා බැහැර කළයුතු දේ පිරිසිඳ දැකීමේ ශක්තිය චේතෝ විවට්ටේ ඥාණයයි.

3. චිත්ත පාරිශුද්ධිය ලැබීම සඳහා බැහැර කළයුතු කෙළෙස් බැහැර කිරීමේ අධිෂ්ඨානය ද පඤ්ඤාවකි. ප්‍රඥා ශක්තියකි.

4. කෙළෙස්වලින් හිස් වූ සුඤ්ඤත තත්ත්වයට පත් වූ පසුව සිතක සියලු ඥාණයන් පූර්ණ වශයෙන් ක්‍රියාත්මක වේ. පිරිසිඳ ගනී.

5. විමුක්ති ඥාණය, චේතෝ විමුක්තිය, පඤ්ඤා විමුක්තිය මිනිසෙකුගේ සිත තුළම

මතු වන්නේ සියලු සංයෝජනයන්ගෙන් බැහැර වී වොස්සග්ග පරිණාමී තත්ත්වයට සිත පත්කර ගැනීමේ ප්‍රඥාව නිසාමයි. විමුක්ති ඥාණ දර්ශනය මතු වීම නිසයි.

6. චතු අරිය සත්‍යයන් නියත වශයෙන් ම පූර්ණ වන්නේ ඇත්ත ඇති සැටියෙන් දැක ගැනීමේ ප්‍රඥාව උපදවා පහදා ගත් නිසාමයි. මෙය "යථාවාදී තථාකාරී තථාවාදී යථාකාරී" යන තථාගත ගුණය තථ්ටියෙ පඤ්ඤා ගුණයයි.

මේ අනුව ලෝකය යනුවෙන් අපම සාදාගත් අපම භාවිතා කරන මේ සංසාර පැවැත්ම සංසාර ගමන නිමා කිරීමට නම් අපම එකතු කර ගත් වටකර සාදා ගත් වටය (සංවට්ට) අපම ඉවත් කර අස්කර විවට්ට කර ගත යුතු වේ. "මේ අස් කිරීම, ශුද්ධ කිරීම, විවට්ට කිරීම'' තම තමන්ට ම කරගත හැකි වන්නේ ප්‍රඥාව යන ශක්තිය තමා තුළම ඇති කර ගැනීමෙන්ම පමණයි. නුවණ, ඥාණය, උගත්කම යනු ප්‍රඥාව නොවේ. නුවණ, ඥාණය යනු එකතු කර සාදාගත යුතු දෙයකි. නමුත් ප්‍රඥාව යනු අස්කර, ශුද්ධ පවිත්‍ර කර, පිරිසිදු, පවිත්‍ර, ප්‍රභාශ්වර තත්ත්වයට සිත පත් කර ගැනීමයි.

ප්‍රඥාව නිසා උපදවා ගත් ඥාණයන් හා දැනුම නිවනටම උපකාර වේ. ප්‍රඥාවෙන් තොර ඥාණය නිවනට උපකාර නොවේ.

විඤ්ඤාණය මගින් එකතු කරගනු ලැබූ ඥාණය දැනුම ලෞකිකත්වය සඳහාම උපකාර වන්නකි. එය අපායගාමී හෝ සුගතිගාමී යන දෙකොටසට ම අයත් විය හැකියි.

ඥාණයක්, දැනීමක් නැති තැනක නැති කෙනෙකු තුළ ප්‍රඥාවක් නොඋපදී. ඒ නිසා ධර්ම ඥාණයම, ප්‍රඥාව උපදවා පහදාගත හැකි එකම උල්පතයි. ප්‍රඥාව උපදවා පහදා ගත නොහැකි කෙනෙකුට ධර්ම ඥාණයෙන් ද ඵලක් නොවේ. ඔහු උගතෙකු පමණි. බුද්ධියෙන් මත් වූවෙකි.

ප්‍රඥාව නොමැති කෙනෙකු එකතු කරගත් ඥාණය නිසා ඔහු තව කෙනෙකු සමඟ තර්ක විතර්ක කර අනෙකා පැරද වීමට තමාගේ මතයම ජයග්‍රහණය කිරීමට මානයෙන් සිත උදුම්මා ගැනීමට ක්‍රියා කරයි.

තර්ක විතර්ක කිරීම අනෙකා යටපත් කිරීම අස්මිමානය, අභිමානය, සදිසිමානය ආදී සියලු ලක්ෂණ කෙනෙකු තුළ ඇති වීමට හේතුව ප්‍රඥාවෙන් තොර වූ ඥාණයක්, දැනුමක් එකතු කර ගැනීමේ ඵලවිපාක ලෙසින්ම යි.

ප්‍රඥාව ඇති කෙනෙකු තම දැනුම ඥාණය කිසිම අවස්ථාවක අයහපත් දෙයක් සඳහා යොදා නොගනී. තමා මෙන්ම අනෙකා ගැනද යහපත් අදහසින්ම අනෙකාට ද යහපතක් කිරීමේ ඒකායන අරමුණකින් ම නිතරම ක්‍රියා කරයි.

උපාදානය කර අල්ලාගෙන සිටි සියලුම පංචඋපාදානස්කන්ධයන්ම පටිනිස්සග්ග

කර අත්හැර මිදී නිදහස් වීමට උපකාර වන්නේ ප්‍රඥාවයි.

පුද්ගලයෙකු තුළ යම්කිසි මිච්ඡා දෘෂ්ඨියක්, ආස්සාද දෘෂ්ඨියක්, අත්ථානු දිට්ඨියක් පවතින්නේ ප්‍රඥාව නොමැති වීමෙනි. ඔහු තුළ යම්කිසි ඥාණයක්, නුවණක් පැවතිය හැකියි. මේ අනුව සියලු දිට්ඨිවලින් මිදී සෝතාපන්න ඵලයට පත්වීමට නම් ඒ සඳහා අවශ්‍ය වන ප්‍රඥාව පිරිසිඳ දැකීමේ ශක්තිය ඇතිකර ගත යුතුමයි.

සම්මා දිට්ඨියට පත්වීම සඳහා ප්‍රඥාව අත්‍යාවශ්‍යම අංගයකි. එසේම ධර්ම ඥාණයක් ද ඒ සඳහා අත්‍යාවශ්‍යමයි. ධර්මය අසා දැන නුවණ දියුණු කරගත් පුද්ගලයා තුළ ප්‍රඥාව නැතිනම් ඔහු ලෞකික සම්මා දිට්ඨියට මිස ලෝකෝත්තර අරිය සම්මා දිට්ඨියට පත් නොවේ.

සම්මා දිට්ඨියට පත් නොවූ නමුත් ධර්මය කියවා ත්‍රිපිටකය කටපාඩම් කර ඒ පිළිබඳව උගත්කමක් ලැබූ යම් ලෞකික ඥාණයක් එකතු කරගත් කෙනෙකු නිතරම ඒ දැනුම ඥාණය අනෙකාට ප්‍රදර්ශනය කිරීමට තමා ප්‍රසිද්ධ වීමට ප්‍රචාරයට ලෝකයාට පෙන්වීමට මෙන්ම ඒ දැනුම තුළින් යම් යම් ප්‍රතිලාභ ලබාගැනීමටත් කටයුතු කරන කෙනෙකු බවට පත් වේ.

නමුත් ධර්ම ඥාණයත් සමඟම ප්‍රඥාවද උපදවා පහදා ගත් සම්මා දිට්ඨියට පත් වූ උත්තමයෙකු කිසිවිටකත් තම දැනුම අනෙකා පැරදවීමට අනෙකාට ප්‍රදර්ශනය කිරීමට තමාගේ ප්‍රසිද්ධියට ප්‍රණාමයට හෝ යම් ආකාරයක ප්‍රතිලාභයක් ලබා ගැනීමේ චේතනාව ඇතිව හෝ ක්‍රියා කිරීමට කටයුතු නොකරයි. ඔහු අවංකවම නිස්සරණ අධ්‍යාශයෙන්ම ලෝක සත්ත්වයාට ධර්මාවබෝධය ලබාදී ලෝක සත්ත්වයාවද දුකෙන් මිදවීමේ ඒකායන අරමුණෙන් ක්‍රියා කරන කෙනෙකි.

ත්‍රිපිටක ධර්මයේ ප්‍රඥාව හා ඥාණය යන අංග දෙකෙන් ම සමන්විත වූ බහුශ්‍රැත පුද්ගලයෙකුගේ ලක්ෂණයන් පහත සඳහන් ධර්ම පාඨයෙන් හොඳින් විග්‍රහ කර තිබේ.

"සුතධරෝ, සුතසන්නිචයෝ, යේ තේ ධම්මා ආදී කල්‍යාණංවා, මජ්ඣෙ කල්‍යාණංවා පරියෝසා කල්‍යාණංවා, සාත්ථං, සව්‍යංජනං, කේවලපරිපුන්නං, පරිශුද්ධං, බ්‍රහ්මචරියං, අභිවන්දන්ති, තථාරූපස්ස ධම්මා බහුස්සුතාහොන්ති, ධතා, වචසා, පරිචිතා, මනසානු පෙක්ඛිතා, දිට්ඨි සුප්පටිවිද්ධා."

මෙහි සඳහන් පද කිහිපයක් පිළිවෙලින් පැහැදිළි කර ගත යුතුයි.

1. සුතා (බහුස්සුතා) - ධර්මය අසා, කියවා දැන, අවධානයෙන් ධර්ම ඥාණයක් ලබා ගැනීම.
2. ධතා- ධර්මය පිළිබඳව දැනුම, නුවණ දියුණු කර ගැනීම.
3. වචසා - විචක්ෂණයෙන්, විමර්ෂණයෙන් විපස්සනා නුවණ ලබා ගැනීම.
4. පරිචිතා - දැනගත් දේ ආශ්‍රයෙන් ම, විපස්සනා ඥාණය මතු කර, පිරිසිඳ දැක ගැනීමට අවශ්‍ය කෙලෙස් ප්‍රහාණය කිරීම.

5. මනසානුපෙක්ඛිතා - යෝනිසෝමනසිකාරයෙන් යුක්තව, හේතුඵල දහමට ගළපා බලා පිරිසිඳ දැකීමේ ශක්තිය ලැබීම. ප්‍රඥාව යනු මේ අවස්ථාවයි.
6. දිට්ඨි සුප්පටිවිද්ධා - සියලු දෘෂ්ඨිවලින් ඉවත් වී, සම්මා දිට්ඨියට පත්වීම.

මේ අනුව බුද්ධ භාෂිතයේ ගෙන හැරපා දේශණා කර වදාළ උතුම් තිපරිවට්ටයම දැන දැක ක්‍රියා කරන ඕනෑම මිනිසෙකුට මේ අනුව සංසාර වට්ටයෙන් මිදී විවට්ට තත්ත්වයට පත් වී නිවන් අවබෝධ කර ගැනීමටම වාසනාව ඇති බව හැම කෙනෙකුට ම අවබෝධ වේවා.

* * * * * * * * * *

## නාම රූප විග්‍රහය

සෑම පුද්ගලයෙකු තුළම ඔහු විසින්ම සාදාගත් නාමරූප ලෝකයක් ක්‍රියාත්මකව පවතී. මේ තමන්ම සාදාගත් නාමරූප ලෝකය තමන්ට කැමති සේ, ප්‍රිය මනාප සේ පවත්වා ගැනීමට හැමවිටම උත්සාහ දරයි. ධර්ම විග්‍රහයට අනුව රූප යනු සතර මහා භූතයන්ගෙන් සැදුම්ලත් දෙයකි. "චතුන්නංච මහා භූතානං - උපාදාය රූපං" ලෙස රූප කොටස "රූප නිර්වචනය" කර ඇත. ආපෝ, තේජෝ, වායෝ, පඨවි යනු රූප කොටසයි. එසේම නාම කොටස නිර්වචනය වන්නේ "වේදනා, සංඥා, චේතනා, පස්ස, මනසිකාර" යන පදවලිනි.

නාම යනු යම් කෙනෙකුගේ සිතක් තුළම ඇතිවන දැනීමකි. සංඥාවක් හා හැඳිනීමකි. යම්කිසි රූපයක් මුල් නොවී සිතක සංඥාවක් උත්පාදනය නොවේ. එනම් මේ නාම රූප යන කොටස් දෙක වෙන් වෙන් වශයෙන් උපාදානය කරගත හැකි දේ නොවේ. රූපයකින් තොර නාමයක් හෝ නාමයකින් තොර රූපයක් හෝ නොපවතී. හොඳින් තේරුම් ගතයුතු දැනගත යුතු දෙය වන්නේ මේ "නාම" කොටසට "සංඛාර හෝ විඤ්ඤාණ" යන පංචස්කන්ධ අංගයන් දෙකම අයත් නොවන බවයි. සංඛාර යනු නාමරූප කොටස් දෙකම ඇතුළත් වන යමක් (සංඛතයක්) උපාදානය කරගැනීමට කරනු ලබන ක්‍රියාකාරකමකි. විඤ්ඤාණය යනු සංඛාරයක් කිරීමෙන් සිතින් ම උපද්දවා ගන්නා සමුදය (සං+උදය) ශක්තියයි.

සිතෙහි මතුවන උපදින ක්‍රියාත්මක වන වේගයක්, ශක්තියක්, ගින්නක් ලෙස විඤ්ඤාණ ශක්තිය හැඳින්විය හැකියි. රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් කරන, කියන, හිතන සංඛාරවලින්ම පමණක් විඤ්ඤාණ ශක්තියක් සිතකම උත්පාදනය වේ. මේ වෙනස තේරුම් ගත් කෙනෙකුට පමණක් විඤ්ඤාණ ශක්තිය ප්‍රහාණය කර සිත පිරිසිදු කිරීමෙන් තමන්ගේම සිතින් උපාදානය කරගන්නා නාම - රූප දෙකම උපාදානය කර ගැනීමෙන්ද

තොරව නමුත් නාමරූප භාවිතයට ගැනීමෙන් හා පරිහරණය කිරීමෙන් පමණක්ම තෘප්තිමත් වීමටත් තම හිතම පුරුදු පුහුණු කරගත හැකි වේ. නිවන් අවබෝධ කරගත් අරහතුන්වහන්සේටත් නාම රූප ඇත. නාම රූප පරිහරණය කරයි. පිරිණිවන් පාන තුරාවටම නාම රූප සිතෙහි මතු වේ. නමුත් ඒ එකම නාම රූපයක් හෝ මම, මගේ, මගේ ආත්මය යනුවෙන් අල්ලා, බදාගෙන උපදානය කර නොගනී. අරහතුන්වහන්සේ තමන්ගේම චිත්තසංථානයේ තමන්ම සකස් කර තිබූ අතීත නාම රූප ලෝකය තමන්ගේ සිතින්ම එතෙක් කල් උපාදානය කර සිටි සිතේම පවත්වාගෙන ආ නාම රූප ලෝකයම "අනිච්චයි - දුක්ඛයි - අනත්ථයි" යනුවෙන් යථාපරිදි, එහි අනිච්ච ස්වභාවය අවබෝධ කොට , ඒ සියල්ලම සිතින් ප්‍රහාණය කර, අත්හැර නිදහස් වූ උත්තමයෙකි. සෑම පෘථග්ජන පුද්ගලයාම සත්ත්වයාම උරා බී රස බලන්නේ මේ නාම රූප ලෝකයමයි.

විඤ්ඤාණ ශක්තිය දිගින් දිගටම උපද්දවා සංසාර ගමන ක්‍රියාත්මකව පවත්වාගෙන යෑමට නම් මේ නාම රූප ලෝකය උරාබී, රහ බැලීමේ ක්‍රියාව දිගටම ක්‍රියාත්මක කර විඤ්ඤාණයට ආහාර සපයා ගත යුතුයි. අරහතුන්වහන්සේ තමන් ලබාගත් යථාවබෝධයෙන්ම නාම - රූප ලෝකය උරාබී, රහ බැලීම විඤ්ඤාණ ආහාර එකතු කිරීම සහමුළින්ම අත්හැර දමා ඇත. ඒ නිසාම "අරහත්" යන විශේෂණ නාම පදයෙන් උන්වහන්සේ හඳුන්වනු ලබයි. ඒ නිසා සියලුම පෘථග්ජන ලෝකයා ලෝක සත්ත්වයින් තමන්ම හදාගත් උපාදානය කරගත් නාම රූප ලෝකය ඇස, කන ආදී ආයතන හයෙන්ම උරාබී, රහ බලා, විඤ්ඤාණ ආහාර උපයා, සපයා ගනී. ජීවත්වීම යනු මේ ක්‍රියාවලියයි.

සෑම පුද්ගලයෙකුම, සත්ත්වයෙකුම, ප්‍රාණියෙකුම පෞද්ගලිකවම ඔවුන් සාදාගත් පවත්වාගෙන යන ඔවුනටම ආවේණික වූ නාම රූප ලෝකයක් ඇත. තම තමන්ටම මිස වෙනත් කිසිවෙකුට මේ තමන්ගේ නාම රූප ලෝකය දැක ගත නොහැකියි. මේ ආකාරයට තමන් හදාගත් තමන්ම පවත්වාගෙන යන මේ නාම රූප ලෝකය ලුජ්ජති, පලුජ්ජති එනම් නිරතුරුවම කැඩෙන, බිඳෙන, පළුදුවන ලෝකයකි. එය තමන්ට කැමති ආකාරයට ප්‍රිය මනාප ආකාරයට දිගටම පවත්වාගෙන යෑමටත් නොහැකියි. නාම රූප ලෝකය ප්‍රිය ආකාරයට මනාප ආකාරයට තමන්ට කැමති ආකාරයට පවත්වාගෙන යෑම සෑම පෘථග්ජන පුද්ගලයාම සැපයක්, සුවයක් ලෙස තීරණය කරයි. එසේ සැප, සුව යනුවෙන් තීරණය කරන ලද තමන්ම සාදාගත් නාම රූප ලෝකයම වෙනස්වීම, විපරිණාමයට පත්වීම, විනාශවීම දුකක් ලෙසද දකී. එසේ නම් පෘථග්ජන ලෝකයාගේ වැරදි දෘෂ්ඨිය නිසාම තමන්ම සාදාගත් දේ ලෙස දුක සැප දෙකමත්, ප්‍රිය අප්‍රිය යන ගති දෙකමත් හැඳින්විය හැකියි.

"සබ්බේ මේ පියේහි මනාපේහි නානාභාවෝ විනාභාවෝ" යන ධර්මාවබෝධය යථාභූත ඥාණය ලබාගත් පුද්ගලයා නාම රූප ලෝකයම උපාදානය කරගැනීමෙන් ද වළකී. "සබ්බූපදි පටිනිස්සග්ගෝ" යන තත්ත්වයටම පත් වේ.

සෑම පෘථග්ජන පුද්ගලයෙකුම ජීවත් වෙනවාය යනු යම්කිසි සැපයක්, සුවයක් අපේක්ෂාවෙන්ම නාම රූප ලෝකයක් සාදා ඒ නාම රූප ලෝකයම උපාදානය කර ගැනීමයි. තමන්ම සාදාගත් තමන්ගේම නාම රූප ලෝකය "නිච්ච සේ, සුඛ සේ, අත්ථ

සේ" දිගටම පවත්වා ගැනීම හැම පෘථග්ජන පුද්ගලයෙකුගේම සත්ත්වයෙකුගේම ඒකායන උත්සාහයයි. යමෙකු සියලු ආකාර වූ දුක් විඳින්නේත් දුක් උරුම කරගන්නේත් තමන්ම සාදාගත් නාම රූප ලෝකය තමන්ට ගැළපෙන සේ, මනාප සේ, දිගටම පවත්වා ගැනීමට කරන, කියන, හිතන ක්‍රියාකාරකම් නිසාත් එවන් බලාපොරොත්තු "නිච්ච" ආකාරයෙන්ම ඉටු නොවන නිසාමත්ය.

මේ තමන්ම සාදාගත් තමන්ම පවත්වා ගැනීමට උත්සාහ ගන්නා නාම රූප ලෝකය ''අනිච්චයි, දුක්ඛයි, අනත්ථයි, මේක මායා ලෝකයක්, මේ නාම රූප ලෝකය විපරිණාමයට පත්වීම, විනාශවීම සිදුවන්නේත්, මේ වෙනස්වීම් දකින්නේත්, තමන්ගේම සිතින්මයි'' යනුවෙන් යම් දවසක යම් අවස්ථාවකදී මේ පුද්ගලයාටම අවබෝධ වුවහොත් එවිට තමන්ගේම සිතින් උපාදානය කර තමන්ම පවත්වාගෙන යෑමට උත්සාහ කළ "නිච්ච සුඛ අත්ථ" සේ තමන්ම තීරණය කර සිටි නාම රූප ලෝකයම "අනිච්චයි, දුක්ඛයි, අනත්ථයි" යන යථාවබෝධය සත්‍යාවබෝධය යම් අවස්ථාවකදී ලබාගත් යථාපරිදි චතු අරිය සත්‍යයන්ම අවබෝධ කරගත් අරිය තත්ත්වයට පත් වූ පුද්ගලයෙකු බවට පත් වේ.

එසේ නම් යම් කෙනෙක් තමන්ම සාදාගත් තමන්ගේම නාම රූප ලෝකය තුළින් යම්කිසි නිච්ච බවක්, සුඛ බවක් හෝ යම් අත්ථ බවක් අපේක්ෂා කරයි නම් බලාපොරොත්තු වේ නම් දුක උපදින තැනද එතනම බව වටහා ගතයුතු වේ. අඥාණ බව යනු දුප්පඤ්ඤස්ස බව යනු මේ තමන්ම සාදාගත් නාම රූප ලෝකයෙහි "අනිච්ච බව, දුක්ඛ බව, අනත්ථ බව" යථාපරිදි දූන ගැනීමට දූක ගැනීමට තරම් සිත පිරිසිදු නොමැති වීමයි.

පරමාර්ථ ලෝකයේ දුක හෝ සැප ලෙස වෙනසක් දූකිය හැකි නොවේ. එසේ වෙනසක් දූකගැනීමට හැකි වන්නේ සම්මත නාම රූප ලෝකයේදීම පමණි. එසේ නම් මේ නාම රූප ලෝකයම තම සිතින්ම සාදාගත් මනඃකල්පිත ලෝකයක් මිස සත්‍යය වශයෙන්ම පවතින්නක්ද නොවේ.

සියලු ආකාර වූ කෙළෙස් උත්පාදනය වන්නේ තමන්ගේම අධ්‍යාත්මික වූ මනඃකල්පිත නාම රූප ලෝකය තුළමයි. කෙළෙස් පරිහරණය කරමින් කෙළෙස් භාවිතා කරමින් පව්කම් කරනවාය අකුසල් කරනවාය යනුවෙන් සම්මතයෙන් ප්‍රකාශ කරනු ලබන්නේ රාග ගතියෙන්, ද්වේෂ ගතියෙන් හා මෝහ ගතියෙන් නාම රූප ලෝකයක් උපාදානය කර ගැනීමයි.

පෘථග්ජන ලෝකයා සැපයි, හොඳයි, ප්‍රියයි, මනාපයි ලෙස යමක් පිළිබඳව නිගමනය කරන්නේ තමන්ගේම ඉන්ද්‍රියයන් හයම පිනවන යම් ක්‍රියාවකටයි. ඉන්ද්‍රියයන් පිනවීමට නම් කෙළෙස් පරිහරණය කළ යුතුමයි. තම ඉන්ද්‍රියයන් පිනවීම සඳහා කෙළෙස් පරිහරණය කිරීමට වීම නිසා තම චිත්තසංථානයම කිළිටි වේ. මනසත් මුවහ වී මනසිකරණ ශක්තියත් දුර්වල වේ. තමන්ගේම සිතෙහි මතු වන නාම රූප පරම්පරාව තමන්ගේම මනසින් වෙන් කර තෝරා බේරා, දූන හඳුනාගෙන චිත්තසංථානය කිළිටි වන නාම රූප බැහැර කිරීමත් චිත්තසංථානය පිරිසිදු කිරීමට උපකාර වන නාම රූප භාවිතා

කිරීමත් පුරුදු වීම සති භාවනාවක් පුරුදු කර ගැනීමයි. මෙසේ යහපත් හා අයහපත් යන කොටස් දෙකකට වෙන් නොකර සිතට වහල් වී සිතට අරමුණු වන සෑම ප්‍රිය දේම භාවිතා කිරීමෙන් ඉන්ද්‍රියයන් පිනවීමට ක්‍රියා කිරීම පෘථග්ජන පුරුද්දයි. සතියෙහි පිහිටා කටයුතු නොකිරීමයි.

උපාදානීය ධර්මයෝ යනු එක දෙයකි. උපාදානය කර ගැනීම යනු වෙනත් දෙයකි. රූපය උපාදානීය ධර්මයකි. රූපය කෙරේ ඇති චන්දරාගය, ආශාව, තණ්හාව නිසාම රූපය උපාදානය කර ගැනීමත් සිදු වෙයි. රූපය නමැති උපාදානීය ධර්මයක් නොමැති විටක වේදනාවක් තණ්හාවක් හෝ උපාදානයක් ද සිදු වීමට නොහැකිය. රූපය කෙරෙහි චන්දරාගයක් නැති විටක දී ද රූප උපාදානයක් සිදු නොවේ.

යම් කෙනෙකුට තමන්ගේම චිත්තසංථානය තුළම උපදින බිහිවන රූප පරම්පරාව,

| | | | |
|---|---|---|---|
| 01. | අනිච්චතෝ | - | අනිච්ච වශයෙන් |
| 02. | දුක්ඛතෝ | - | දුක්ඛ වශයෙන් |
| 03. | රෝගතෝ | - | රෝග වශයෙන් |
| 04. | ගණ්ඩතෝ | - | ගඩු වශයෙන් |
| 05. | සල්ලතෝ | - | ඇනෙන උල් වශයෙන් |
| 06. | අඝතෝ, ආබාධතෝ | - | පලිබෝධ වශයෙන්, ආබාධ වශයෙන් |
| 07. | පරතෝ, පලෝකථෝ | - | අනුන් වැනසීම් වශයෙන් |
| 08. | සුඤ්ඤතෝ | - | කිසිම හරයක් නැති ශූන්‍ය දේ වශයෙන් |
| 09. | අනත්ථ තෝ | - | තමන්ම අනාථ අසරණ තත්ත්වයට පත් කරවන දේ වශයෙන් |

දැක ගත හැකි නම් ඒ පුද්ගලයා රූපයන් උපාදානය කර නොගනී. රූප කෙරේ තණ්හාවක් චන්දරාගයක් ඇති කර ගන්නේ ද නොවේ. රූපය උපාදානය කර ගැනීමට කරන "සංඛාර" සිත් පැවැත්වීම ද නවතා දමයි. ඒ අනුවම නාම රූප කොටස් දෙකම උපාදානය කර ගැනීමෙන්ද වැළකී පංචස්කන්ධයමත් උපාදානය කරගැනීමෙන් ද වැළකෙයි.

නාම රූප ලෝකය හා පංචස්කන්ධ ලෝකය අතර ඇති වෙනස්කම්ද යථාපරිදිම තේරුම් ගත යුතුය.

නාම රූප ලෝකය ආපෝ, තේජෝ, වායෝ, පඨවි යන උපාදාය රූපයන්ගෙන් හා වේදනා, සංඥා, චේතනා, පස්ස, මනසිකාර යන නාම කොටස්වලින්ද සමන්විතය. පංචස්කන්ධ ලෝකය රූප, වේදනා, සංඥා, සංඛාර හා විඤ්ඤාණ යන උපාදාය කොටස් පහකි.

නාම රූප ලෝකයක් නිසාම පංචස්කන්ධ ලෝකයක් ද සිතින් ම සාදා සකස් කර ගනී. නාම රූප ලෝකය උපාදානය කර ගැනීමට හැකි ආකාරයකින් සකස් කර ගන්නේ "සංඛාර හා විඤ්ඤාණ" යන ක්‍රියාකාරකම් නිසාය. නාමරූප ලෝකය කෙරෙහි යම් චන්දරාගයක් ප්‍රිය මධුර බවක් පවතීද ඒ අනුව "සංඛාර" සිත් පවත්වා විඤ්ඤාණ ශක්තියද උපද්දවා පංචස්කන්ධ ලෝකයම අල්ලා බදා ගැනීමෙන් උපාදානය කර ගැනීම සිදු වෙයි.

පෙර දැක් වූ පරිදි නව ආකාර වශයෙන් රූප කෙරෙහි එහි යථා තත්ත්වය කෙරෙහි මෙනෙහි කිරීමට විමර්ශණය කිරීමට විපස්සනා කිරීමට පුරුදු වූ හැකි වූ පුද්ගලයාට රූප උපාදානයෙහි ආදීනව, ආනිසංස යථාපරිදි දැකගැනීමටත් ලැබෙයි. ඒ අනුව "රූපං අනිච්චා, රූපං දුක්ඛා, රූපං අනත්ථා" යන සත්‍යය පසක් කොට දැකගත් විට ඒවා උපාදානය කර ගැනීමෙන් ද වැළකෙයි. මේ අනුව නාම රූප හෝ පංචස්කන්ධයන් හෝ සිතක් කිළිටි කරන මනස මුවහ කරන දේ නොවේ. පංචස්කන්ධය උපාදානය කරගැනීමම සිත කිළිටි කරන මනස මෝහයෙන් මුවහ කරන මූලිකම හේතුවයි.

පංචස්කන්ධයම උපාදානය කර මම, මගේ යනුවෙන් වෙන් කර තමන්ම අල්ලා බදාගත් සියලු දේ වෙනස් වී, වැනසී, විනාශ වී, විපරිණාමයට පත් වීමෙන් දුක් උපදවන හේතුව බවටද පත් වේ. තමන් අල්ලා උපාදානය කර නොගත් යමක් වැනසී විනාශ වී යාම නිසා තමන්ට කිසිම දුකක් ඇති නොවේ. තමන් අල්ලා, උපාදානය කරගත් හා උපාදානය කර නොගත් යන සියලු දේම වැනසී, විනාශ වන නියත ධර්මතාවයට යටත් වන බව යථා පරිදි දැනගත් තේරුම් ගත් පුද්ගලයා "පංචස්කන්ධය" උපාදානය කර ගැනීමේ ක්‍රියාවලියම දුකට හේතුවන බවත් යථාපරිදිම තේරුම් ගනී. "සංඛිත්තේන පංචඋපාදානස්කන්ධා දුක්ඛා" යනුවෙන් ප්‍රකාශ කළේ මේ අර්ථයෙනි.

මේ අනුව,

01. සතර මහා භූතයෝ (ආපෝ, තේජෝ, වායෝ, පඨවි) හේතුකොට, ප්‍රත්‍ය කොට, නිදාන කොට රූපස්කන්ධයමත් සිතකම බිහි වේ.
02. වේදනා ස්කන්ධයම ස්පර්ශය හේතුව කොට, ප්‍රත්‍ය කොට, නිදානය කොට, සිතකම මතු වේ.
03. සංඥා ස්කන්ධයමත් ස්පර්ශය (පස්ස) හේතුව කොට, ප්‍රත්‍ය කොට, නිදාන කොට සිතකම මතු වේ.
04. සංඛාර ස්කන්ධයමත් ස්පර්ශය හේතුකොට, ස්පර්ශය ප්‍රත්‍ය කොට, ස්පර්ශයම නිදාන කොට, සිතකම ඇති වේ. බිහි වේ.
05. විඤ්ඤාණ ස්කන්ධයම නාම රූප හේතුව කොට, නාම රූප ප්‍රත්‍ය කොට, නාම රූප නිදානය කොට සිතකම ඇති වේ. බිහි වේ.

සක්කාය දිට්ඨිය නමැති "වැරදි දැක්මක්" පෘථග්ජන පුද්ගලයෙකු තුළ ඇති වන්නේම මේ සතර මහාභූත උපාදානය කර ගැනීමෙන්ම විඤ්ඤාණය සාදා සකස් කරගත් කුඩුව, ශරීර රූපය "රූපය මමයි, මගේ රූපයයි, රූපය මගේ ආත්මයයි, මම රූපය තුළ ඇත, රූපයෙන් තොර මමෙක් නැත" යන හැඟීම අදහස සිතේ ඇති කරගත් නිසයි. මේ ආකාරයෙන්ම වේදනාව, සංඥාව, සංඛාර හා විඤ්ඤාණ යන පංචස්කන්ධයම පිළිබඳව දකින්නා වූ වැරදි දෘෂ්ඨිය සක්කාය දෘෂ්ඨියයි. පංචස්කන්ධය හා පංචඋපාදානස්කන්ධය තමා තුළින්ම තමන්ගේම මනසින්ම වෙන් කොට තෝරා බේරා දැක ගැනීමට හැකි නම් එය සක්කාය දිට්ඨියෙන්ද මිදී චතු අරිය සත්‍යයන්ම අවබෝධ කර ගැනීමට ද බලවත්ම උපකාරයක් ද වන්නේය. පංචස්කන්ධය හා පංචඋපාදානස්කන්ධය යන දෙක අතර වෙනස යථාපරිදි තේරුම් නොගත් සියලුම මිනිස්සු පෘථග්ජන ලෝකයටම අයත් වෙති.

උපාදානය කරගත් සියල්ලම පංචස්කන්ධයම (සබ්බූපදි) පටිලෙහා, ගැටලෙහා, අත්හැර දමා නිදහස් වීම (පටිනිස්සග්ගෝ) කරගත හැකි වන්නේ ද උපාදානය පිළිබඳව යථාවබෝධය ලැබූ පමණටමය. සත්තබොජ්ජංග සම්පූර්ණ වීම යනු මෙතෙක් සිතින්ම උපාදානය කර සිටි "සබ්බූපදි පටිනිස්සග්ග" කිරීමයි. සතර සතිපට්ඨානය වැඩීම සත්ත සම්බොජ්ජංග සම්පූර්ණ කරගැනීමේ ප්‍රායෝගික ක්‍රියාපටිපාටිය වේ.

* * * * * * * * * *

## පරම ගාම්භීර බුද්ධ දේශණාව
## පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහය

ලොව්තුරා බුද්ධත්වයට පත්වන සියලුම බුදුපියාණන්වහන්සේලා ස්වයංභූ ඥාණයෙන්ම සොයාදැන මතුකර ලෝකයට දේශණාකර වදාරනු ලබන පරම පවිත්‍ර බුද්ධ ධර්මය නම් උතුම් පටිච්ච සමුප්පාද ධර්මයයි. කිනම් කාලයකදී හෝ අවංකවම නිවන් අවබෝධකර ගැනීමට උත්සාහ දරණ යම් කෙනෙකු විසින් තේරුම් ගත යුතු වන්නේ ද පටිච්චසමුප්පාද ධර්මය යනු කුමක්ද යන්නයි. යම් කෙනෙකු පටිච්ච සමුප්පාද ධර්මය යම් පමණකට තේරුම් ගත්තේ ද ඔහු එපමණටම නිවන් අවබෝධ කරගත්තා ද වෙයි.

අප ජීවත්වන සජීවී ලෝකයේ මෙන්ම අප අවට ඇති අජීවී ලෝකයේ ද විවිධාකාර වූ ක්‍රියාකාරීත්වයන් ක්‍රියාත්මක වීමට මුල් වූ හේතුව කුමක්ද? මේ විවිධ ක්‍රියාකාරීත්වයන්ගේ උපතට හේතු වූ මූලික ශක්ති ප්‍රභවය කුමක්ද? යම් ශක්තියකින් හටගත් දෙයක් සදාකාලිකවම නොපවතින්නටත් නිරන්තරයෙන්ම ගෙවී ගෙවී විපරිණාමයට පත්වී වැනසී යාමටත් හේතුව කුමක්ද? මේ නියත ධර්ම ස්වභාවයට නියාම ධර්මයන්ට මුල් වූ හේතුව කුමක් ද?

අනන්ත අප්‍රමාණ කාලයක පටන්ම මිනිසා උත්සාහ දරණ ලද්දේ මෙවන් මූලික ප්‍රශ්ණවලට කාටත් පිළිගත හැකි ආකාරයේ නිවැරදි පිළිතුරක් සොයා දැන ඉදිරිපත් කිරීමටය. ගෝතම බුදුපියාණන් බුද්ධත්වයට පත් වීමටත් පෙර අතීතයේ පටන්ම විවිධ විද්වතුන්, දාර්ශනිකයින්, ඉසිවරුන් හා උගතුන් මෙවන් ප්‍රශ්නවලට ඉදිරිපත් කළ විවිධ පිළිතුරු හා මතවාද නිසාම බොහෝමයක් ආගම් සංකල්ප හා දර්ශනවාදයන් ද බිහිවිය. නියතිවාදය, සාපේක්ෂතා වාදය, කාලවාදය, ස්වයංකථ වාදය, පරංකථ වාදය, සත්කාර්ය වාදය ආදී දර්ශන වාදයන් මෙන්ම ආත්ම වාදය, අනාත්ම වාදය, උච්ඡේද වාදය, සාස්වත වාදය, ඊශ්වර වාදය, කර්ම වාදය, අධිච්ච සමුප්පන්න වාදය, වේද ආගම, උපනිශද් ආගම ආදී විවිධ ආගමික සංකල්පයන් ද කලින් කලට ලොව ප්‍රචලිත විය.

ගෝතම බුදුපියාණන්වහන්සේ ද එවකට ජම්බුද්වීපයේ ප්‍රචලිතව භාවිතයේ පැවති සියලු ආගම් සංකල්ප මෙන්ම දර්ශන වාදයන්ද ගැඹුරින් හදාරා ඒවායේ පැවති

අඩුපාඩුකම් දුර්වලතා මැනවින් තේරුම් ගෙන ඒවා තුළ ගැබ්ව තිබූ ලෞකික, භෞතික අන්තවාදී මති මතාන්තර බැහැර කර දොස් කපාහැර, කාටත් පිළිගතහැකි විද්‍යාත්මක වූත්, සර්ව සාධාරණ වූත් කාලය හා දේශය අනුව වෙනස් නොවන්නා වූත් ලෝකෝත්තර හා ලෞකික යන උභය අර්ථ සාධනය සඳහාම උපකාර කරගත හැකි වූත් පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහය නම් මේ උතුම් බුද්ධ ධර්මය ස්වයංභූ ඥාණයෙන්ම සොයා දැන ලෝකයාට දේශණාකර වදාළ සේක.

විභජ්ජ වාදය, ඉදප්පච්චයතාවය යන නම්වලින්ද එකලදී හැඳින්වූ "පටිච්චසමුප්පාද" යන වචනවල නිරුක්ති අර්ථය පරිලෙහා, ගැටලෙහා ධර්මානුකූලවම සොයා බලන කෙනෙකුට මිස මේ උතුම් ධර්මයේ ගාම්භීර බවද තේරුම් ගත නොහැකිමය. පටි ඉච්ච සං උත්පාද යන පද හතරක්ම මෙහි ගැබ්වී ඇත. මේ වචන හතරම විග්‍රහකර තේරුම් කර ගැනීම ධර්මාවබෝධය ලබාගැනීමට ඉමහත් පිටිවහළක් වෙනු ඇත.

පටි :- යනු බැඳීමයි. සම්බන්ධ වීමයි. පටියකින් බැඳීම හා ලණුවකින් බැඳීම යන දෙක, එකම ආකාරයේ බැඳීමක්ද නොවේ. හිතට ගැළපෙන සුව පහසු ලෙසින් බැඳීම පටියකින් බැඳීමයි.

ඉච්ච :- යනු කැමැත්තයි. විඤ්ඤාණ චිත්තයේ මතුවන කැමැත්ත "ඉච්ච" යනුවෙන් හඳුන්වයි. මේ අනුව "පටිඉච්ච" යනු සිතෙහි මතුවන ප්‍රිය මනාප වූ, ඉෂ්ට කාන්ත වූ කැමැත්තට බැඳීමයි. නිරන්තරයෙන් ම ඉන්ද්‍රියයන් හයටම හමුවන මුණගැසෙන ප්‍රිය සංඥාවන්ට කැමැත්තෙන්ම බැඳීම පටිඉච්ච වීමයි. ඇසට ලැබෙන රූප සංඥා, කනට ඇසෙන ශබ්ද සංඥා, නාසයට දැනෙන ගඳ සුවඳ සංඥා, දිවට දැනෙන රස සංඥා, ගතට දැනෙන සුව පහසු සංඥා හා මනසෙහි මතුවන මනෝ සංඥා ප්‍රිය ආකාරයේ ඒවා නම් මධුර ඒවා නම් ඒ ආකාර වූ ප්‍රිය සංඥාවලට බැඳීම "පටි ඉච්චවීම" ලෙසින් පෙන්වා දිය හැකිය.

සං උත්පාද :- යනු සමුදය වීමයි. සංඥාවකට බැඳීම නිසා "සං" උපතක් ලබයි. සංඛතයක් ද උපත ලබයි. සංකල්පනාද උපත ලබයි. ඒ අනුව සිතෙහි සංඛාරයක් බිහිවෙයි. රූප ආදී යම් සංඥාවකට කැමැත්තෙන්ම බැඳුනු පසු ඊට අනුරූප වූ "සං" උත්පාදයක් සිදුවීම (සමුදය වීම) ධර්ම නියාමයයි. ප්‍රිය මනාප සංඥාවක් සමඟ ගැටෙන ඉන්ද්‍රියයන් නිසා විඤ්ඤාණ චිත්තයේ නිතරම යම්කිසි බලාපොරොත්තුවක් බිහිවෙයි. ඒ අරමුණට, නිමිත්තට, සිතුවිල්ලට, සිතින්ම ඒ ප්‍රිය මනාප දේ සමග එකතු වී එයම උපාදානය කර ගැනීමට කරනු ලබන සියලු උත්සාහයන් "සං උපත" ලෙසින් (සමුදය) හැඳින්විය හැකිය. පටිඉච්ච - කැමැත්තෙන් බැඳීම හේතුව ලෙසත්, සමුදය - සං උත්පාදනය ඵලය ලෙසත් පෙන්වා දෙන නිසා මේ ධර්මතාවයට හේතුඵල දහම ලෙසින් ද සිංහල භාෂා ව්‍යවහාරයේදී නම්කර ඇත.

බුදුපියාණන්වහන්සේ දේශණාකර වදාළ සුව අසුව දහසක් ධර්මයෝම මේ පටිච්චසමුප්පාද ධර්මය විග්‍රහ කරන්නටම දේශණාකර වදාළ, පටිච්චසමුප්පාද ධර්මයම පදනම් කොට ගෙනම දේශණා කළ දහමකි. බුදුපියාණන්වහන්සේ ස්වයංභූ ඥාණයෙන්ම

සොයා මතුකර පෙන්වා වදාළ සෑම ධර්ම විග්‍රහයකටම සෑම ධර්ම නියාමයකටම සෑම ධර්ම දේශණාවකටම මූලික පදනම වූයේත් එහි මූලික හරය වූයේත් මේ උදාර චින්තනයයි. ඒ නිසාම මෙය ඉතාමත් ගාම්භීර ධර්මයක් සරළ ලෙසින් මතුකර පෙන්වීමක් ලෙසින්ද සඳහන් කළ හැකිය.

හේතුවක් හා ඵලයක් අතර යම්කිසි ආකාරයක නියත සම්බන්ධයක් ඇති බව බොහෝ දාර්ශනිකයන් ද තේරුම් ගත් නමුත් මේ හේතුඵල සම්බන්ධතාවය ඇතිවන ආකාරය නිවැරදිවත් පැහැදිළිවත් විග්‍රහකර පෙන්වා දී මෙහි අඩංගු විද්‍යාත්මක සත්‍යයන් මතුකර පෙන්වා දීමට සමත්වන්නේ ලොව්තුරා බුදු කෙනෙකුන්ම පමණි. එකල ප්‍රචලිතව පැවති ආත්මවාදයන් අනාත්ම වාදයන් හා ඊශ්වර වාදයන් සෑම එකක්ම යම්කිසි දෘෂ්ඨියකට දෘෂ්ඨිගතවීම නිසාම උපත පැවැත්ම හා නිස්සරණය මෙන්ම විපරිණාමය වැනි මූලික ප්‍රශ්න පවා විසඳා ගැනීමට හැකියාවක් ඒවායේ නොතිබුණි. නැවත නැවතත් කෙනෙකු උපදින්නටත්, උපදින හැම වාරයක් පාසාම මිය යන්නටත්, උපදින හැම කෙනෙකුම නියත වශයෙන්ම දුක් විඳින්නටත් පදනම් වූ හේතුන් පැහැදිළි කරගන්නට තරම් ඒ දර්ශනවාද සමත් නොවීය. මේ නිසාම මහා බ්‍රහ්මයා, ඊශ්වර වැනි සර්වබලධාරී දෙවියෙකුට හෝ කර්මවාදය ආත්මවාදය වැනි දෘෂ්ඨියකට හෝ කැමති පරිදි මේ සියල්ල සිදුවේ යැයි ගොඩින්ම ප්‍රශ්ණයට පිළිතුරු සපයා ගත්හ. හේතුව හා ඵලය අතර ඒකත්වයක් දැක්විය නොහැකි බව පෙන්වා දුන් බුදුපියාණන්වහන්සේ පටිඉච්චසමුප්පාද ධර්මතාවය විග්‍රහ කර පෙන්වා වදාළහ. සිතක ඇතිවන පටිඉච්ච බව කැමැත්තකට බැඳීම ප්‍රත්‍ය කොටගෙන හේතුව කොටගෙන නිදානය කොටගෙන සමුදය කොටගෙන "සං" උපත ලබන බව පෙන්වා වදාළ සේක. මේ නිසා සත්ත්වයෙකුගේ පුද්ගලයෙකුගේ සිතෙහි පහළවන කැමැත්ත සංසාර ගමනට මුල්වන බවද පෙන්වා වදාළහ.

"ආරම්මණ විජාණන ලක්ඛණං චිත්තං" යනුවෙන් ධර්මයේ දේශණාකර පෙන්වා වදාළ පරිදි සිතක නියත ලක්ෂණය වන්නේ නිරතුරුවම විවිධ අරමුණු මතුවීමයි. ජනිත වීමයි. මේ අරමුණු අතුරෙන් සමහරක් අරමුණු නිමිති, සිතුවිලි ප්‍රිය ඒවා වෙයි. ප්‍රිය ඒවාට කැමැත්තෙන්ම බැඳීම පටිඉච්ච ධර්මතාවයයි. විඤ්ඤාණ ශක්තියක් සිතක බිහිවන්නේම මෙවන් ප්‍රිය මනාප අරමුණුවලට සංඥාවලට බැඳී සිතේ බලාපොරොත්තුවක් ඇති වීමෙනි. "සංඥා", "සංඛාර", "විඤ්ඤාණ" සිතක පහළවන්නේම කැමැත්තට බැඳීමෙනි. ඒ පටිඉච්ච ධර්මතාවයයි. සිතෙහි පහළ වූ අරමුණකට, ආරම්මණයකට, නිමිත්තකට, කැමැත්තෙන්ම බැඳුණු පසු ඒ කැමැත්තට අනුකූලවම, ඊට සමානුරූපවම, ධර්ම නියාමයට අදාළවම, "සං" උපතක්, සමුදයවීමක් සිදුවන ධර්ම නියාමය පෙන්වා වදාළ ධර්මය පටිච්චසමුප්පාද ධර්මයයි.

හේතුව එකකි, ඵලය තවත් ආකාරයේ එකකි. හේතුවක් නැතිව යම් ඵලයක් බිහිවීම සිදුනොවේ. හේතුව හා ඵලය සම්බන්ධ කරවන යම් බලවේගයක් ද ශක්තියක් ද ඇත. හේතුව හා ඵලය වෙන්කරන, ගෙවා, විපරිණාමයට පත්කරවන ශක්තියක් ද ඇත. හේතු රාශියක් නිසා එක ඵලයකුත් එක හේතුවක් නිසා ඵල රාශියකුත් ආදී වශයෙන් විවිධ ආකාර වූ සිදුවීම් සිදුවීම නියාම ධර්මයන් පහටම අනුගතව සිදුවෙයි. නියත වශයෙන්ම ලොව පවතින නියාම ධර්මයන් වෙනස් කරන්නට කිසිවෙකුටත් නොහැකිය. හේතු

නොකරන තාක් කිසිවෙකු නියාම ධර්මයන්ට යටත් වන්නේද නැත. මේ අනුව හේතුඵල ධර්මය හා නියාම ධර්මයන් ලොව සාදාකාලිකවම පවතී.

පොල් ගෙඩියක් සිටුවා කෙනෙකුට අඹ පැලයක් අඹ ගසක් ලබාගත නොහැකිය. පොල් ගසක් ලබාගැනීමට නම් පොල් ගෙඩියක්ම සිටුවිය යුතුය. පොල් ගෙඩියක් සිටවූ පමණින්ම පොල් ගසක් බලාපොරොත්තු විය නොහැකිය. තවත් බොහෝ හේතු ඊට උපකාරක විය යුතුය. අනික් සියලු උපකාරක හේතු තිබුණත් පොල් ගෙඩිය පැළ නොවන තත්ත්වයේ එකක් නම් එතැන පොල් ගසක් ලබන්නටද නොහැකිය. මේ ආකාරයටම හේතුඵල ධර්මය හා කර්ම වාදයද තේරුම් ගත යුතුය. කර්මය යනු ක්‍රියාවයි. ක්‍රියාව වෙනස් කර ගැනීමෙන්ම ඵලයද කර්ම ඵලයද වෙනස් කරගත හැකිවෙයි. මේ අනුවම බුදු දහමෙහි හරය වූ, ප්‍රතිෂ්ඨාව වූ, හේතුඵල ධර්මය හා කර්ම වාදය යනු එකක්ම නොවේ. බුද්ධ ධර්මයට අනුව කර්මය ප්‍රතිකර්ම කිරීමෙන් හා උපක්‍රම (උපකර්ම) වලින්ද සම්‍යක් ප්‍රයෝග වලින්ද වෙනස් කරගත හැකිය. හේතුඵල ධර්මයට අනුව හේතුවම වෙනස්කර ගැනීමෙන් හෝ හේතුව අත්හැර නිදහස් වීමෙන් හෝ ඵලය විපාකයද වළකා ගත හැකිය. කර්මයද වෙනස්කර ගත හැකිය.

## හේතු ඵල ධර්මතාවය

හේතුඵල ධර්මතාවය යනු කුමක්ද? එය ක්‍රියාත්මක වන ධර්ම ස්වරූපය කෙබඳුද? යන කරුණු ගැන පැහැදිළි වැටහීමක් ලබන්නට පහත සඳහන් කරුණු ද තේරුම් ගත යුතුය.

01. සත්ත්වයෙකු පුද්ගලයෙකු අත්විඳින හැම ඵල විපාකයකටම මුල්වූ හේතුවක්ද අනිවාර්යයෙන්ම තිබිය යුතුය.
02. ඒ හැම හේතුවක්ම සංඛාරයකි. චිත්ත සංඛාරයක්, වචී සංඛාරයක් හෝ කාය සංඛාරයකි.
03. හැම සංඛාරයක්ම කිරීමෙන්, සිතීමෙන් චිත්ත ශක්තියක් බිහිකර ගැනීමද සිදු වෙයි.
04. පුද්ගලයෙකු, සත්ත්වයෙකු එකතු කර ගත් චිත්ත ශක්තිය එකතු කර ගත් අය වෙතම ඵල විපාක දීමට ද සමත් වෙයි.
05. මේ හේතු හා ඵල විපාකයන් අතර විද්‍යාත්මක සම්බන්ධයක්ද ඇත. නියාම ධර්මයන්ට අනුකූල ලෙසින් හැම ඵල විපාකයක්ම විග්‍රහ කර විස්තර කර පෙන්විය හැකිය. නියාම ධර්මයකින් විස්තර කළ නොහැකි විග්‍රහ කළ නොහැකි කිසිම සංඛාරයක් නැත.
06. එවන් වූ නියාම ධර්මයන්ට අනුරූපිවම, අනුකූලවම යහපත් හේතුවක් යහපත් ඵල විපාකයක් ලබා දීමටත්, අයහපත් හේතුවක් අයහපත් ඵල විපාකයක් ලබාදීමටත් සමත් වේ. යහපත් හේතුවකින් අයහපත් ඵල විපාකයක් කිසිදා බලාපොරොත්තු විය නොහැකිය. මේ නියත ලක්ෂණය නියාම ධර්ම නම් විය.

07. කෙනෙකු වර්තමානයේ අත් විඳින හා අතීතයේ අත්විඳි සියලු ඵල විපාක දුක

සැප, ලාභ අලාභ, කීර්ති ප්‍රශංසා, අපකීර්ති අවමාන ආදී අටලෝ දහමට අයත් හැම අංගයක්ම තමන්ට අත් විඳින්නට සිදුවූයේ මේ මොහොතට පෙර තමන්ම එකතු කර ගන්නා ලද හෝ අල්ලා ගන්නා ලද හෝ චිත්ත ශක්තියක් හේතු කොට ගෙනමය. ඒ සියල්ල තමන්ගේම අතීත උරුමයන්ය.

08. හේතු ලෙස පෙන්විය හැකි සියලු දේ ක්‍රියා, වදන්, සිතුවිලි තම සිතින්ම සිතා ක්‍රියාවෙන් හෝ කථාවෙන් හෝ කරන ලද ඒවාය. වෙන කවුරුන් හෝ කරන ලද, කියන ලද, හෝ සිතන ලද දෙයක් තමන් අල්ලා නොගත්තොත් තමන්ට ඒවා ඵල විපාක ලෙස උරුම නොවේ. අහක යන කුණු ගොඩවල් තමන් බලෙන්ම අල්ලා නොගත්තොත් ඒවා කාටවත් බලෙන්ම තමා වෙත පැටවිය නොහැකිය. එවැනි කුණු ගොඩවල් බලෙන්ම තවත් පුද්ගලයෙකුට හෝ සත්ත්වයෙකුට හෝ පැවරිය හැකි ශක්තියක් වෙනත් කිසිම කෙනෙකුට ද නැත.

09. තමන් යම් ක්‍රියාවක් හෝ කථාවක් හෝ කරන්නට පෙර තම සිතුවිලි මෙහෙයවා කල්පනා කර ඒ ගති ලක්ෂණයට, චරිත ලක්ෂණයට (හව) අදාළව චිත්ත ශක්තියක් නිපදවා, චිත්ත ශක්තියේ බලය මතම ක්‍රියාව හෝ කථාව කරන බවත් දැක ගත යුතුය. ඒ උපදවා ගත් ගති ගුණයට, චරිත ලක්ෂණයට අදාළ ගති රුව, ගති හඬ, ගති බව, ගති බල තමන් තුළින්ම විද්‍යාමාන වන බවද දැක ගත යුතුය.

10. තම සිතට යම් සංඛාරයක් අරමුණු වූ පසුව යම් ගති ලක්ෂණයකට පත්වී, ක්‍රියා කළහොත්, කථා කළහොත් එහි ඵල විපාකවල ස්වරූපය මනසින් මැන බුද්ධියෙන් අනුමාන කර දකින්නට මිනිසෙකුට ශක්තිය ඇති බවද දැක ගත යුතුය.

11. සිතට අරමුණු වූ යම් හේතුවක් තමාට නොගැළපේ නම් තම අයහපතට හේතු වේ නම් කුණු එකතුකර ගැනීමක් වේ නම් එවැනි සිතුවිල්ලක් උත්සාහයෙන්, වීර්යයෙන් සිතින් අතහැර, සිතුවිලි පරම්පරාවට නොබැඳී, සිත නිරෝධ කර ඉන් නිදහස් විය හැකි බවද දැන ගත හැකිය.

12. ඵල විපාක උරුම වීමෙන් නිදහස්වීමට නම් ඵල විපාක අත්හැරීමට නම් හේතුවට අදාළ ගති ලක්ෂණ ගතිගුණ බිහි කිරීමෙන් වැළකී සිතුවිලි නිරෝධ කිරීම කළ යුතු බවත් දැන ගත යුතුය.

13. අහිතකර අයහපත් ඵල විපාක දෙන සියලු සිතුවිලි, සියලු අරමුණු දැන එවැනි සිතුවිලි සිතෙහි මතු වූ මොහොතේම උත්සාහයෙන් ඒවා නිරෝධ කර ඉන් නිදහස් විය හැකි බවද දැක ගත යුතුය.

14. වෙනත් ලෝක සත්ත්වයෙකුට අයහපතක්, අවැඩක්, අසාධාරණයක්, තමා අතින්, සිතින් සිදුවන්නේ නම් එයද තමාටත් ඵල විපාක උරුම වන දෙයක් බවද දැකිය යුතුය. කවදා හෝ මෙවැනි අයුතු අසාධාරණකම්වලට තමන්ටත් වන්දි ගෙවන්නට ණය ගෙවන්නට දුක් විඳින්නට සිදුවන බවද දැකගත යුතුය. වෙනත් ලෝක සත්ත්වයෙකුට යහපතක් හොඳක් කළොත් එහිදී යහපත් ඵල විපාක තමාටත් අත්විඳින්නට සිදුවන බවත් දැකගත යුතුය.

15. අද තමා අත් විඳින හා අතීතයේ අත්විඳි සියලු අහිතකර ඵලවිපාක මෙන්ම හිතකර යහපත් ඵල විපාක ද තමාම පෙර දිනක කළ හේතුවල ඵලවිපාක ලෙසින්ම ලැබී ඇති බවද දැකිය යුතුය.

16. තමන්ට අත් විඳින්නට සිදුවන සිදුවුන සියලු අයහපත් හා යහපත් ඵල විපාකයන් සම්බන්ධයෙන් වෙනත් කිසිඳු පුද්ගලයෙකුට වෙනත් කිසිඳු සත්ත්වයෙකුට හෝ ස්වභාවධර්මයා කෙරෙහි කිසිම ආකාරයක අහිතක්, ද්වේෂයක්, වෛරයක් ඇති කර ගැනීමෙන් වැළකී සිටිය යුතුය. එසේ වෛරයක්, ද්වේෂයක් ඇති කරගන්නේ නම් තමන් අත් විඳින ඵලවිපාක නැවත නැවතත් එවැනිම ඵල විපාක ලබන්නට මතු මත්තෙත් හේතුවක් බවට පත් කරගන්නා බවද දැකිය යුතුය. සැප ලැබීම නිසා උඩගු වීම, උද්දාමයට පත්වීම, දුඞ් සතුටට පත්වීම නිසා අනිවාර්යයෙන්ම සිත දූෂණය වී කිළිටි වන බවද දැකගත යුතුය.

17. අටලෝ දහමට අයත් සියලුම දේ මේ ආකාරයට ඉවසා දරා ගන්නට පුරුදු පුහුණු වීමෙන් පමණක් නිවන ද, නිදහස ද ලබාගත හැකිය. අටලෝ දහමට අයත් කුමන හෝ කෙළවරක් අල්ලාගත හොත් එය මතු ඵල විපාක ලැබිය හැකි නිවනට බාධක හේතු බවද දැක ගත යුතුය.

18. යහපත්, හොඳ, නිවැරදි යැයි සම්මතයෙන් පිළිගත් දේ බොහෝ ක්‍රියා, වදන්, සිතුවිලි නිසා තමන්ටම උරුම විය හැකි ඵල විපාක සොයා බලා ඒවා කෙබඳු ඵල විපාක දෘයි දැන කටයුතු කළ යුතුය. එවැනි දේ තමාගේ සසර ගමන දික් කරන නිවන් මඟ පමා කරන හෝ නිවන් මඟ වසා දමන සසරට බැඳ තබන හේතු නම් ඒවා කොතරම් සම්මතයෙන් හොඳ යැයි පිළිගත්තත් ඒවායින් වැළකී සිටිය යුතුය. එවැනි ක්‍රියා, වදන්, සිතුවිලි සම්මතයෙන් කොපමණ හොඳ වුවත් වෙනත් සත්ත්වයකුගේ, පුද්ගලයෙකුගේ නිවන් මඟට බාධා පමුණුවන, නිවන ප්‍රමාද කරන, සසරට බැඳ තබන ආකාරයේ දේ නම්, ඒවායින් ද ඉවත්ව නිදහස් විය යුතුය.

19. මතු දෙව් මිනිස් සැප ප්‍රාර්ථනා කර එවැනි චිත්තජ රූප නිපදවා එවැනි බලාපොරොත්තු ඇති කිරීම අද සම්මතයෙන් ඉහළම පින්කම් ලෙස හුවා දක්වති. මේවායෙහි ඵල විපාක ලෙස තමන්ම සංසාරයේ අතරමං වන බවත්, ලෞකික සැප ප්‍රිය මනාප දේ නිසා දෙව් මිනිස් සැප ගැන තැබූ බලාපොරොත්තු නිසා රාග, මෝහ වැඩී තම නිවන් මඟ වැසී යන බවත් දැන ගත යුතුය. මෙහි හේතු ඵල ගැනම සළකා බලා කටයුතු කළ යුතුය.

20. හැම මොහොතකම නිවන් මඟට නිදහස් වීමට උපකාර වන ක්‍රියා, වදන්, සිතුවිලි සතියෙහි පිහිටා දැක ගැනීමටත්, දැක ඒවා අනුගමනය කිරීමටත් පුරුදු විය යුතුය. රාග, ද්වේෂ, මෝහ ගති ගුණ ගති ලක්ෂණ දියුණු කරන ක්‍රියා, වදන්, සිතුවිලි වලින් නිතරම ඉවත් විය යුතුය.

21. හේතුඵල ධර්මයේ මූලික සිද්ධාන්තය තේරුම් ගත් පසුව මොහොතක්, මොහොතක් පාසා චිත්තක්ෂණයක් චිත්තක්ෂණයක් පාසා තමන්ම බිහිකර, එකතුකර ගන්නා චිත්ත ශක්තීන් ගති ලක්ෂණ චරිත ලක්ෂණ එකතු කර ගන්නා ආකාරය දැක ගත හැකි විය යුතුය. මීට පෙර එසේ එකතු කරගත් චිත්ත ශක්තීන් ඵල විපාක ලෙසින් තමන්ටම අත් විඳින්නට වීමත් දැකගත හැකිය. පැවැත්මේ ඇතිවීම, නැතිවීම මෙය බවද මීට අමතරව මේ පැවැත්ම යැයි කියන ඇතිවීම නැතිවීම තුළ කිසියම් ආකාරයක හරයක් අර්ථයක් වටිනාකමක් නැති බවද දැක ගත හැකි විය යුතුය.

22. හැම හේතුවක් නිසා ඵල විපාකයක් උරුමවන්නා සේම හැම හේතුවක්ම අතීත ඵල විපාක සම්බන්ධතාවයක් නිසාම සිදුවන බවත් දැක ගත හැකි වනු ඇත. හේතු නිසා ඵල විපාකත් ඵල විපාක නිසාම හේතුත් ලෙසින් මතු මතුත් සම්බන්ධතාවයන් ඇතිවන බවත් දැකගත යුතුය. හේතු අත්හැරීම මඟින්ම බලාපොරොත්තු අතහැර හේතු ඵල දෙකෙන්ම මිදී නිදහස් වන්නට හැකි බවද දැකගත යුතුය.

23. යම් හේතුවක් නිසා බිහිවන කිසිම ඵල විපාකයක් එක මොහොතක් හෝ එකලෙස පවත්වා ගත නොහැකි බවද දැකගත යුතුය. නිපදවූ චිත්ත ශක්තිය හෙවත් ඵලවිපාක ලෙස බිහි වූ දුක සැප ආදී කොයි ආකාර වූ ඵලවිපාක හෝ විපරිණාමයට පත්වී ගෙවී විනාශය කරාම යන බවද දැක ගත යුතුය.

24. හැම ඵල විපාකයකම නියත ලක්ෂණයක් වූ ගෙවී විපරිණාමයට පත් වී විනාශ වන ලක්ෂණය ධර්මතාවයක් බවද දැකගත හැකි විය යුතුය. ඒ නියත ධර්ම ස්වභාවය නිසා බිහි වූ කිසිම ඵල විපාකයක් තමන් කැමති සේ එක මොහොතකට වඩා නොපවතින බවත් දැන ගත යුතුය. කැමති සේ පැවැත්විය නොහැකි බව, කැමති සේ නොපවතින බව, කැමති සේ දිගටම නොලැබෙන බව, හැම සංඛාරයටම පොදු හැම සත්ත්වයෙකුටම පොදු නියත ලක්ෂණයක් බවද දැකගත යුතුය.

25. හැම සත්ත්වයකුම හැම පුද්ගලයකුම තම මුළු ජීවිත කාලය තුළම කරන්නේ එවන් ගෙවී යන ඵල විපාක අතීත සිදුවීම් තමන්ට කැමති සේ පවත්වා ගන්නට දරණ උත්සාහයක් බවද දැකිය යුතුය. ප්‍රිය මනාප ලෙසින්ම පවත්වා ගන්නට අප්‍රිය අමනාප දේ ප්‍රිය මනාප තත්ත්වයට වෙනස් කර ගන්නට දරණ උත්සාහයන්ම පමණක් බවද දැක ගත යුතුය. ඒවායේ නියත ස්වභාවය වෙනස් වීම ගෙවී යාම විනාශ වීම බව මොහොතකට වත් කල්පනා නොකරන නිසාම සියලු දුක් විඳවයි. හේතුඵල දහම දැක ධර්ම ස්වභාවය දැක සතියෙන් කළ යුත්තේ මේ තත්ත්වයෙන් ගැළවීමටයි. බිහි වූ හැම ඵලයක්ම, විපාකයක්ම කාලයත් සමඟම ගෙවී යයි. මේ ගෙවී යන ස්වභාවය ගමන් කරන ස්වභාවය ධර්මතාවය යමක් කැමති සේ පවත්වා ගන්නට නොහැකි වීමට මූලික හේතුව බවද දැකගත යුතුය.

26. මේ ධර්මතාවය මේ ධර්ම ස්වභාවය ගමන් කිරීමකි. මේ රිය ස්වභාවයට ශක්තිය උපදවා බිහි කර ගත්තේ තමන්මය. මෙහිදී සිදු වන්නේ තමන්ම උපදවා ගත් චිත්ත ශක්තිය ගෙවී යාමකි. ගමන යාමට නැවත නැවතත් ශක්තිය බිහි කර ගැනීමකි. මුළු ජීවිත කාලය තුළම කරන්නේ දැනුවත්ව හෝ නොදැනුවත්ව චිත්ත ශක්ති අලුතෙන් බිහි කර ගැනීමත් බිහිකළ චිත්ත ශක්ති ගෙවා දැමීමත් පමණි.

මෙවන් රිය ස්වභාවය ගමන් කරන ධර්මතාවය ස්වභාවික විද්‍යා සිද්ධාන්තයකි. කිසිවක් කැමති සේ පවත්වන්නට නවත්වන්නට නොහැකි ධර්ම ස්වභාවයයි. මේ ධර්ම ස්වභාවයේ සත්‍යය නොදන්නාකම මෝහයයි, අවිද්‍යාවයි. එහි විද්‍යාත්මක සත්‍යය නොදැනීම නිසාම හැම මිනිසෙකුම හැම පෘථග්ජන පුද්ගලයකුම යම් යම් අය හා සම්බන්ධ වන්නට යම් යම් තැන් වලට බැඳෙන්නට හා යම් යම් බලාපොරොත්තු ඇති කරගන්නට

දරණ උත්සාහය තණ්හාවයි. මේ නොදැනීම හා තණ්හාව නිසා හැම පෘථග්ජන පුද්ගලයකුම නියත වශයෙන්ම අනාථ තත්ත්වයට පත්වෙයි. හේතුඵල දහම දැක ඒවායේ නියත ස්වභාවය දැක, නියම තත්ත්වය තේරුම් ගත්තේ නම් අනාථ තත්ත්වයෙන් මිදිය හැකිය.

27. හේතුඵල ධර්මතාවය ක්‍රියාත්මක වන ආකාරය පිළිබඳ යථාවබෝධයක් යථාභූත ඥාණයක් ලැබූවෙකුට තමන් විසින් අත් විඳිනු ලබන සියලු දුක්වලට හේතුව තමන්ම උපදවාගත් චිත්ත ශක්තීන් පමණක් බවද දැකගත හැකිය. එය ප්‍රඥාව පහළ වීමයි. අඳුරින් අනාථ බවෙන් මිදීමට මාර්ගය දැකීමයි. හේතුඵල දහමට බහා ගළපා හැම දෙයක් ගැනම පරම සත්‍යය තේරුම් ගැනීමට හැකි බවද දැකගත හැකිය. තම බුද්ධියෙන් ලැබූ යථාවබෝධය නියම මඟ පෙන්වන්නා බවට පත් කරගත හැකි බවද දකී.

28. මේ රිය ගමනට හේතුව තමන් විසින්ම කරන, කියන, හිතන දේ නිසා තමන්ම වගා කර ගන්නා ගති ලක්ෂණ, චරිත ලක්ෂණ හා චිත්ත ශක්තිය බවද දැන් පැහැදිළිය. තමන් මෙතෙක් කල් සිතූ සියල්ල කළේ දුකෙන් බේරීමට, දුකෙන් නිදහස් වීමට, දුක වෙනස් කර ගැනීමට, දුක වෙනුවට සැප සොයා ගන්නට, ප්‍රිය මනාප දේ අයිති කරගන්නට අත්විඳ ගන්නටමය. දුකින් ඉවත් වීමට දරණ උත්සාහය සැප ප්‍රිය මධුර දේ ලුහු බැඳ ඒ පසුපස දුවන ස්වභාවය සංසාර රිය ගමනකි. දුක පිළිබඳ පරම සත්‍යය නොදන්නා නිසා කරන රිය ගමනකි.

29. දුක රිය තත්ත්වයක් බව නොදැනීම නිසාම යන මේ ගමනේ විද්‍යාත්මක සත්‍යය දැකීම "දුක්ඛ අරිය සත්‍යය" අවබෝධ වීමයි. සත්‍යය තේරුම් නොගත් නිසා හේතුඵල දහම සත්‍යය ලෙස තේරුම් නොගත් නිසා මෙතෙක් කල් දුක මේ රිය ගමනට හේතුව කරගත් බවත් දැන් දුක පිළිබඳව සත්‍යාවබෝධ වීම නිසා ගමන නවත්වා රිය අරිය කිරීමට හැකි බවත් දැක ගත හැකි වෙයි. යම් ප්‍රියමනාප දෙයක් කැමති සේ නොලැබෙයි නම් ඊට ප්‍රියමනාප බවක් පවතින තුරාම ඒ ගති ලක්ෂණයම ඒ ගති ස්වභාවයම දුකටද හේතු වෙයි. මේ ගමනටද හේතු වෙයි. මෙහි හේතුඵල දහම දැක ගැනීම විද්‍යාත්මක සත්‍යය දැකීම දුක්ඛ අරිය සත්‍යය අවබෝධ වීමයි. සත්‍යය දැක ප්‍රිය මනාප බව යනු මායාවක්, කැමති සේ පැවැත්විය නොහැකි දෙයක්ය යන්න යථාපරිදි අවබෝධ කරගත් විට මේ ප්‍රිය මනාප දේ පසුපස හඹායාම නවතී. රිය ගමන නවතී. සියලු සංඛාර කැමති සේ පැවැත්විය නොහැකි බව (සබ්බේ සංඛාරා අනිච්චාතී) කල නියත ධර්ම ස්වභාවයක් බව දැක ඒවා පසු පස ලුහු බැඳීම නවතා දැමීම කල හැක්කේ මේ යථාවබෝධයෙනි.

30. හැම සත්ත්වයෙකුම, පුද්ගලයෙකුම සාරයි, වටිනවා යැයි අල්ලා ගන්නට උපාදානය කර ගන්නට පවත්වන්නට උත්සාහ දරණ වෙර වීරිය දරණ මේ පංචස්කන්ධය පිළිබඳව යථාස්වභාවය දැක ගත හැක්කේ එය පිළිබඳව හේතු ඵල දහම දැකීමෙනි. මේ පංචස්කන්ධය හැම සත්ත්වයෙකුගේම පුද්ගලයෙකුගේම ලෝකයයි. මේ ලෝකය ප්‍රියමනාප සේ පවත්වා ගන්නට පංචස්කන්ධය දුකින් මුදවා ගන්නට දුක් නැති කර සැප අත්කර ගන්නට හැම මොහොතකම

ගන්නා උත්සාහය මේ ගමන යාමයි. රිය ගමන යාමයි. මේ රිය ගමන අරිය කළ හැකි වන්නේ පංචස්කන්ධය පිළිබඳ හේතුඵල දහම දැකීමෙනුත්, පංචස්කන්ධය අල්ලාගෙන විඳවන දුක පිළිබඳව හේතු ඵල දැකීමෙනුත් පමණි.

ඉන්ද්‍රියයන් හරහා අරමුණක් සිතට ලැබෙන විටම මෙය හේතුවක්ද ඵලයක් ද කියා තෝරා බේරා ගන්නට, පුරුදු පුහුණු විය යුතුය. මෙහිදී පරීක්ෂණය, නිරීක්ෂණය, නිගමනය යන තිපරිවට්ටය උපකාර කර ගත යුතුය. හේතුවක් නම් ඊට සම්බන්ධ වූ ඵල විපාකද දැක ගත යුතුය. ඒ හේතුව කිරීමෙන් එහි ඵල විපාකයන් ලෙස අත්විඳින්නට ලැබෙන ආනිසංස ගැනද දැක ගත යුතුය. මෙලෙස සිතට අරමුණු වන හැම සිතුවිල්ලකම හේතුඵල දහම විපස්සනා කර දැක ගන්නට පුරුදු විය යුතුය.

ඵල විපාක කිනම් අයුරකින් තමාටම උරුමවේද යන්න හැමවිටම සිතා බලා නිගමනය කරන්නට පුරුදු පුහුණු විය යුතුය. තම සිත කිළිටි කරන චිත්ත ශක්තියක් උපදවන, "සං" එකතු කරන රාග, ද්වේෂ, මෝහ සංඛාර මෙන්ම අලෝභ, අද්වේෂ, අමෝහ සංඛාර වුවත් "සං" එකතු කරන, සංඛාරයෝ නම් ඒවා පැහැදිළිව හඳුනාගන්නට පුරුදු පුහුණු විය යුතුය. එහි ඵල විපාක ලෙසින් තම සංසාර ගමන දික් කරයි නම් එවැනි ගති ලක්ෂණයක්, චරිත ලක්ෂණයක් වඩවයි නම් එය කුණු බව දැක, කිළිටි දේ බව දැක, ඒවා අවිද්‍යාමූල සංඛාර බව දැක වහාම එවැනි දේ ප්‍රහාණය කර නිදහස් විය යුතුය.

ලෝභ, ද්වේෂ, මෝහ බය කරන චිත්ත ශක්ති හෝ ගති ලක්ෂණ එකතු නොකරන ඒ වෙනුවට එවැනි ගති ලක්ෂණ බැහැර කරන කුසල මූල සංඛාරයක් නම් ඒ කුණු සළාහැරීම අවසාන වනතුරු එවන් සංඛාර ආශ්‍රය කර භාවිතාකර සම්පූර්ණයෙන් ඒ ගති ලක්ෂණයෙන් චරිත ලක්ෂණයෙන් මිදී නිදහස් විය යුතුය.

මෙලෙස තම චිත්ත පාරිශුද්ධතාවයත්, මෝහයෙන් මිදීමත් නොකඩවාම පුරුදු පුහුණු කරගත යුතුය.

මේ අතරම තම චිත්තසංථානයෙහි පහළ වන යම් අරමුණක් නිසා එය හේතු කොට ගෙන වෙනත් සත්ත්වයෙකුගේ නිවන් මඟට යම් බාධාවක් අවහිරයක් වේ නම් නිවන ප්‍රමාද කරවන ක්‍රියාවක් නම් එයින් ද හැකි පමණ ඉක්මනින් ඉවත් වී සිතුවිලි ප්‍රහාණය කර ඉන් නිදහස් විය යුතුය. වෙනත් කෙනෙකුගේ නිවන් ප්‍රමාද කරන්නට නිවන් මඟට බාධා කරන්නට තමන් කරන, කියන, සිතන දෙයක් හේතුවෙයි නම් එය තමාටද ඍජුවම බලපෑමක් කරන දෙයක් බව දැක, ඉන් ඉවත් වී එයින් ද නිදහස් විය යුතුය.

තමන් කරන, කියන, හිතන ක්‍රියාවක ඵල විපාක ලෙසින් තවත් කෙනෙකුගේ නිවන් මඟ හෙළි කර දෙයි නම් නිවන් මඟට ඇති බාධක ඉවත් කර දෙයි නම් මෝහයෙන් මිදී බුද්ධිය දියුණු කර ගත හැකි නම් එය කුසල මූල සංඛාරයක් බව දැක ඒ ක්‍රියාව කිරීම දිගටම කරගෙන යා යුතුය. එය තමන්ගේ නිවන් මඟටද උපකාර වන බව දැන ගත යුතුය.

සංඛාරයක් කර අවසාන වීමෙන් පසුව තවදුරටත් ඒ ගැනම සිතා කම්පාවීම හෝ

උද්දාම වීම කළ යුතු දෙයක් නොවේ. ඵල විපාක කොයි ආකාර වුවත් දැන් එය සිදු වී අවසානය. දැන් ඵලය වෙනස් කරන්නට කුමන ආකාරයකින් හෝ නොහැකිය. අතීත සිදුවීම නිසා දුක් විඳීම කිසිසේත්ම කළයුතු නොවේ. එය කිසිම අර්ථයක් තේරුමක් ඇති දෙයක් නොවේ. කළයුතු එකම දේ ලැබූ ඵල විපාක මතු තවත් ඵල විපාක දෙන හේතුවක් ලෙස භාවිතා කිරීමට කටයුතු කිරීමෙන් වැළකී සිටීමයි.

තමා අතින් දැන හෝ නොදැන හෝ යම් වරදක් පාපයක් අසාධාරණයක් සිදු වී නම් දැන් එය සිදුවී අවසානය. එහි ප්‍රතිඵලය දැක මින් මතු එවන් වරදක් පාපයක් අසාධාරණයක් නොකරන්නට, එවැනි දෙයින් මිදෙන්නට පමණක් කටයුතු කළ යුතුයි. එවන් වරදක්, පාපයක් නිසා වෙනත් සත්ත්වයෙකුට, පුද්ගලයෙකුට අසාධාරණයක් අවැඩක් සිදු වී ඇත්නම් ඒ සඳහා ප්‍රතිකර්ම කර, සමාව ගෙන, වන්දි ගෙවා, ණය ගෙවා, පින් පවරා, මෙත්තා, කරුණා සිත පතුරුවා සිත නිදහස් කරගත යුතුය.

හේතු ඵල දැකීමට නොහැකි පෘථග්ජන අය, තම මුළු ජීවිත කාලය තුළම කරන්නේ සිතන්නේ අතීතයට ගිය මෙවන් දේ ගැන සිතා තැවී දැවී දුක් විඳීම පමණි. සිතින් දුක් විඳ නැවත නැවතත් ඒ ඵල විපාකයන්ම හේතු ලෙස අල්ලා ගෙන ඊට සම්බන්ධවී නැවත නැවතත් හේතු ඵල බිහිකර ගැනීම මගින් මුළු ජීවිත කාලයම අපතේ යවයි. ඵල විපාක දුක් නම් ඒවා වෙනස් කර ගන්නට උත්සාහ දැරීමත් ඵල විපාක සැප නම් ඒවා පවත්වා ගන්නට උත්සාහ දැරීමත් මිස වෙනත් හරයක් අර්ථයක්, තේරුමක් ඇති දෙයක් මුළු ජීවිත කාලය තුළම නොකරන බව යථාභූත ඥාණයෙන් හේතු ඵල තේරුම් ගත හැකි කෙනෙකුට දැක ගත හැකිය.

ඵල විපාක දුක් හෝ සැප හෝ අතරමැදි හෝ විය හැකිය. ඒ මත්තේම වෙහෙස වී දාහය, ගින්න බිහිකර ගැනීම මතු දුකට මුලයි. රිය ගමන මෙයයි. කැමති සේ වෙනස් කර ගන්නට කැමති සේ පවත්වා ගන්නට උත්සාහ දරණ හැම පෘථග්ජන පුද්ගලයෙකුම තම මුළු ජීවිත කාලයම තේරුමක් අර්ථයක් නැති උත්සාහයක යෙදෙන බව දැකීමෙන් පමණක් මේ තත්ත්වයෙන් මිදී අර්ථයක් ඇති විමුක්තියක් නිවනක් සඳහා කටයුතු කළ හැකිය.

සාරයි කියා නොනවත්වාම බලාපොරොත්තු තබාගෙන යන මේ ගමන දුවවන්නට උපකාර වන එකම සංඛාරය "දුක" බව විද්‍යාත්මක ලෙසින් තමන්ටම දැකගත හැකි වන්නේ දුක පිළිබඳ හේතු ඵල ධර්මය දැකීමෙනි. දුක රියක් බවට පත් කරගෙන මේ ගමන යන්නේ නොදැනුවත්කම නිසාමය. දුක යනු කුමක්දැයි නොදන්නේ එහි විද්‍යාත්මක වූ, පරම සත්‍යය නොදැනීමයි. දුක තමන්ම සිතින් බිහිකරගත් එකක් බව නොදැනීමයි. දුක පිළිබඳව මේ සත්‍යය ස්වරූපය දැක තමන්ම සිතින් සාදා ගත් එකක් බව දැක ගන්නට ලැබුනු විට දුක පිළිබඳ සත්‍යය දැන ගත හැකි වෙයි. එවිට "දුක්ඛ අරිය සත්‍යය" අවබෝධ වෙයි.

මෙයින් පැහැදිළි කරන්නට උත්සාහ ගන්නේ දුක පිළිබඳ චතු අරිය සත්‍යය ප්‍රත්‍යක්ෂ ලෙසින් අවබෝධ කරගත හැකි වන්නේ දුක පිළිබඳ පටිච්ච සමුප්පාද ධර්මය, හේතුඵල ධර්මය පූර්ණ ලෙස අවබෝධ කර ගැනීමෙන්ම පමණක් බවයි. හේතුඵල අවබෝධයෙන් තොරව දුක නමැති ඵලයට විපාකයට පාදක වූ සත්‍යයම හේතුව දැක ගත

නොහැකිය. මේ නිසා නිවන් දකින්නට සැබෑ අවංක උත්සාහයක් ඇති සෑම මිනිසෙකුම උත්සාහ ගත යුතු වන්නේ "දුක" යන සංඛාරය පිළිබඳ විද්‍යාත්මක හේතුවම සොයා හේතුවෙන්ම ඉවත් වන්නටයි. හේතුවම නැති කර ගන්නටයි. "සබ්බේ සංඛාරා දුක්ඛාති යදා පඤ්ඤාය පස්සති අථ නිබ්බිංදති දුක්ඛේ, ඒස මග්ගෝ විශුද්ධියා" යනුවෙන් බුදුපියාණන් දේශණා කළේ මේ සත්‍යයයි. මිනිසෙකුට නිවන් දකින්නට උපකාර වන, උපකාර කරගත යුතු බුද්ධ ධර්මය පටිච්ච සමුප්පාද ධර්මයයි.

ලොව්තුරා බුදුපියාණන්වහන්සේ උතුම් බුද්ධ බවට පත්වීමේදී, පූර්ණ ලෙසින් සත්‍යාවබෝධ කරගත්, ස්වයංභූ ඥාණයෙන්ම මතුකර සොයා දැන ගත් එකම විද්‍යාව මෝහය නැත්නම් නොදන්නාකම නැමැති රෝගයෙන් මිදී ප්‍රඥාව උදාකර ගත හැකි ක්‍රමයයි. මේ විද්‍යාත්මක සත්‍යය ගෙන හැර දක්වා බුදුපියාණන්වහන්සේ දුක් විඳින ලෝක සත්ත්වයාට, රෝගීන්ට, මෝහයෙන් මිදෙන්නට ලබාදුන් බෙහෙත පටිච්ච සමුප්පාද ධර්මයයි.

පටිච්චසමුප්පාද ධර්මයෙන් විග්‍රහ කළ නොහැකි සංඛාරයක්, සමුදය ධර්මයක් මේ මිහිපිට නැත. අභ්‍යන්තර වේවා, බාහිර වේවා, සියුම් වේවා, ඝන වේවා, දුර වේවා, ළඟ වේවා, හීන වේවා, ප්‍රණීත වේවා, අතීත වේවා, අනාගත වේවා සියලුම ධර්මයෝ පටිච්ච සමුප්පාද ධර්මයෙන් විස්තර කර විග්‍රහ කර දිය හැකිය. චිත්ත, චෛතසික, රූප, නිබ්බාන යන සියල්ල විග්‍රහ කර විස්තර කර දුන්නේද පටිච්චසමුප්පාද ධර්මයෙනි. ඒ නිසා බුද්ධ ධර්මය නම් පටිච්ච සමුප්පාද ධර්මයයි.

බුදුපියාණන්වහන්සේ බුද්ධත්වයට පත්වන්නටත් පෙර අතීතයේ පටන්ම භාවිතයේ පැවති විවිධ දර්ශනවාදවලටද යම් ආකාරයකින් හෝ හේතුඵල සම්බන්ධයක් ගෑවී තිබුණ නමුත් ඒ සියලු මතවාද අසම්පූර්ණ ඒවා විය. අනුමානයෙන් පදනම් රහිතව ඇතිකරගත් මත පමණක්ම විය. පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහය නමින් විභංගප්‍රකරණයේත්, මහාවග්ග පාලියේත්, සංයුක්ත නිකායේත් අනිකුත් සූත්‍ර ධර්මවලත් එන බුදුපියාණන් ඉදිරිපත් කළ හේතුඵල විග්‍රහය සර්ව සම්පූර්ණ වූත් කාටත් පිළිගත හැකි වූත් නිවනට නිවැරදිවම මඟ පෙන්වන්නා වූත් ධර්ම මාර්ගයයි. අද ඒ උතුම් ධර්ම විග්‍රහය බෞද්ධයා අතරේ භාවිතා වන්නේ නැත. මේ උතුම් පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයෙන් ඉතාමත්ම සුළු කොටසක් අද භාවිතා කළත් එහිද අර්ථ, ධර්ම, නිරුක්ති නැති නිසා නොදන්නා නිසා එයද වැරදි අර්ථයෙන්ම භාවිතා කරති. විභංගප්‍රකරණයේ පච්චයා විභංගයෙහි එන විවිධාකාර පටිච්චසමුප්පාද විග්‍රහයන් විවිධාකාරයෙන් බෙදා දක්වා ඇති අතර අදටත් ඒ සියල්ලම කාටත් කියවා දැනගත හැකිය. පසු කාලීනව ලියාපළ කරන ලද අටුවා, ටීකා, ටිප්පනිවලින් මේ උතුම් ධර්මය විකෘති කරන ලද නිසා අද භාවිතයේ පවතින පටිච්චසමුප්පාද විවරණයන් නිවන් මඟට උපකාර නොවන ආත්මවාදී ලෞකික දේවල් පමණි.

ජීවී අජීවී ලෝකයේ අපට පෙනෙන නොපෙනෙන මේ පැවැත්ම තුළ බිහිවන හැම සංඛතයක්ම බිහිවන්නට හේතුවත් බිහිවූ හැම සංඛතයක්ම යම් කාලයක් පැවතී නියත වශයෙන්ම ගෙවී විපරිණාමයට පත්වී විනාශ වී යන්නටත් හේතු විග්‍රහ කර පෙන්වා වදාළේ පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයෙනි. ඒවාගේම එකම අසංඛත ධර්මය වූ නිවන් අවබෝධකර

ගන්නට මඟ පෙන්වා වදාළේද කුසලමූල පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයෙනි. නිවන යනු පැවැත්මේ නැවැත්මයි. පැවැත්මට මුල්වූ හේතුව දැන සොයා එවන් හේතු නිරෝධ කිරීමෙන්ම, සමුදය නිරෝධ කර නිවන් අවබෝධ කරගත හැකි බවද පෙන්වා දුන්නේ පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයෙනි. මේ සඳහා අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්මයකුත් අවිද්‍යාමූල පටිච්චසමුප්පාද නිරෝධ කිරීමකුත් ඊට අමතරව කුසලමූල පටිච්ච සමුප්පාද ධර්මයකුත් යැයි තුන් ආකාරවූ ධර්ම විග්‍රහයක්ම බුද්ධ දේශණාවේ අඩංගුය. අද කුසලමූල පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයේ පෙන්වූ ප්‍රතිපත්ති ක්‍රමයන් ප්‍රායෝගිකව භාවිතා කරන්නට දන්නා අයනම් බෞද්ධයින් අතර ඉතාමත් විරලය.

මේ අනුව යම් කෙනෙක් නිවන් අවබෝධ කරගන්නට අවංකවම උත්සාහ දරණවා නම් කල්පනා කරනවා නම් ක්‍රියා කරනවා නම් ප්‍රතිපත්ති පුරණවා නම් පළමුකොටම කළයුතු වන්නේ පටිච්ච සමුප්පාද ධර්මය පිළිබඳව යම් පමණකට හෝ දැනුමක් ලබා ගැනීමයි. බුදුපියාණන්වහන්සේම මේ බව ඉතාමත් පැහැදිළිවම දේශණාකර පෙන්වා වදාළහ.

"යෝ පටිච්චසමුප්පාදං පස්සති
සෝ ධම්මං පස්සති
යෝ ධම්මං පස්සති
සෝ මං පස්සති"

මෙහි තේරුම, යමෙක් පටිච්චසමුප්පාද ධර්මය යම් පමණකට පසක් කොට දනීද, තේරුම් ගනීද, ඔහු ඒ තරමටම බුද්ධ ධර්මයද දනී. ධර්මාවබෝධය ලැබුවෙකුද වෙයි. පටිච්චසමුප්පාද ධර්මය යම් පමණකට තේරුම් ගනීද, ඔහු එපමණටම තමන් පිළිබඳවද තේරුම් ගනී. බුද්ධ ධර්මය හා බුදුපියාණන් යනු කවුදැයි ඔහු තේරුම් ගනී යනු මෙහි අදහසයි.

මෙයින්ම ගම්‍ය වන අනෙක් යථාර්ථය නම් යම් කෙනෙකු පටිච්චසමුප්පාද ධර්මය තේරුම් නොගත්තේ නම් ඒ පුද්ගලයා තමන් කවුදැයි තේරුම් ගත් කෙනෙකු නොවේ. ඒවාගේම බුදුපියාණන් කවුදැයි කෙබඳු උත්තමයෙකුදැයි තේරුම් ගත් කෙනෙකුද නොවේ. බුද්ධ ධර්මය යනු කුමක්දැයි තේරුම් ගත් කෙනෙකුද නොවේ. "භව" උදුරා දමා බුද්ධත්වයට පත්වී නිවන් දකිනවා යනු කුමක්දැයි තේරුම් ගත් කෙනෙකුද නොවන්නේය.

මෙතැනදී හැම කෙනෙකුම තේරුම් ගතයුතු වැදගත්ම දෙයක් ඇත. බුදුපියාණන් අවබෝධ කරගත් දැනගත් අනන්ත අප්‍රමාණ ආකාරවූ සියලුම පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයන් තවත් බුදු කෙනෙකුන්ටම හැර වෙනත් මිනිසෙකුට, දෙවියෙකුට, බ්‍රහ්මයෙකුට ඒ ආකාරයෙන්ම තේරුම් ගත නොහැකි බවයි. තවත් කෙනෙකුට වචනයෙන් කියා පැහැදිළි කරදිය නොහැකි බවයි. සැරියුත්, මුගලන් ආදී අග්‍ර ශ්‍රාවකයින් වහන්සේලා හෝ ධර්ම භාණ්ඩාගාරික වූ ආනන්ද හිමි හෝ දැන ගත්තේ තේරුම් ගත්තේ බුදුපියාණන් දේශණා කර වදාළ පටිච්ච සමුප්පාද විග්‍රහයෙන් ඉතාමත් සුළු කොටසකි. නිවන් අවබෝධ කරගන්නට නම් අනිවාර්යයෙන්ම පටිච්චසමුප්පාද ධර්මයේ මූලික කොටස් තුන තේරුම් ගත යුතුමය. චතු අරිය සත්‍යය ධර්මයන් නිවැරදිවත් පූර්ණ වශයෙනුත් අවබෝධ කරගන්නට නම් අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්මයත්, අවිද්‍යාමූල පටිච්චසමුප්පාද නිරෝධයත්, කුසලමූල

පටිච්චසමුප්පාද ධර්මයත් යථාභූත ඥාණයෙන් තේරුම් ගැනීම හොඳටම ප්‍රමාණවත්ය.

අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්මයෙන් පැහැදිළි කර දෙන්නේ "සං" උපත ලබන, සමුදය ධර්මයන් සිතක හටගන්නා ආකාරයයි. "සංඥා" "සංඛාර" "සමුදය" "සංඛත" ''සම්බන්ධ'' සංසාර ගමනට උපකාර වන ආකාරයයි. අවිද්‍යාමූල සංඛාරයක් ක්‍රියාත්මක වී "භව"තත්ත්වයටත් ජාති තත්ත්වයටත් සිත තුළදීම පත්වන ක්‍රියාවලිය පෙන්වා දුන්නේ අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයෙනි. සිතෙහි මතු වූ යම් සංඛාරයක් අවිද්‍යාමූලයෙන් හටගත් එකක් බව දැන තේරුම් ගෙන එය නිරෝධ කර සිත තුළින්ම ඉවත්කර දමා නිදහස්වන්නට මඟ පෙන්වා දුන්නේ අවිද්‍යාමූල පටිච්චසමුප්පාද නිරෝධ මාර්ගයෙනි. කුසලමූල පටිච්ච සමුප්පාද ධර්මය යනු මීට හාත්පසින්ම වෙනස් එකකි. අතීතයේ කවදා හෝ යම්කිසි සාරවත් බවක් දැක එකතුකර ගත් යම් ගති ලක්ෂණයක් සිත තුළ මුල්බැස ගබඩා වී පවතී. එය අවිද්‍යාවෙන් හා තණ්හාවෙන්ම එකතු කරගත් රාග මූලික, ද්වේෂ මූලික හෝ මෝහ මූලික ගති ලක්ෂණයක් බව දැක එය සිත කිළිටි කරන කුණු ගොඩක් බවද තේරුම් ගෙන මුලින් උදුරා දමා සළාහැර අස්කර ගන්නට අනුගමනය කළයුතු ක්‍රියාමාර්ගය කුසලස්ස යනුවෙන් පෙන්වා වදාළ කුසළ මූල පටිච්චසමුප්පාද ධර්ම මාර්ගයයි. සංසාර ගමනට උපකාර වන තම චිත්තසංථානයේ ගබඩා කරගෙන මුල්බැසගෙන පවතින රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණයන් කුණු කන්දරාවක් බව යථාභූත ඥාණයෙන්ම තේරුම්ගත් කෙනෙකුට පමණක් එවැනි කුණු සළාහැර ඒ ගති ලක්ෂණ මුළින් උපුටාදමා, අධ්‍යාත්මික පාරිශුද්ධත්වයට ප්‍රභාශ්වර තත්ත්වයට පත්විය හැකිය. එය ප්‍රඥාව උපදවා පහදා ගැනීමේ ක්‍රමයයි.

"අවිද්‍යා පච්චයා සංඛාරා - සංඛාර පච්චයා විඤ්ඤාණං" ආදී කොට කියවන වචනවල පදවැල්වල පටිච්චසමුප්පාද ධර්මයක් නැත. ඒ පදවැල්වලින් කියැවෙන අර්ථය ධර්මතාවය තමා තුළින්ම තමාම දැකගත යුතුය. යථාවබෝධයක් ලැබ තමාම කරන, කියන, හිතන සංඛාර පිළිබඳව යථාභූත ඥාණ දර්ශනයක් ඇතිකර ගැනීමම පටිච්චසමුප්පාද ධර්මය තුළින් ලබන ධර්මාවබෝධයයි.

## ඉච්ච හා පටිච්ච

ඒ ඒ පුද්ගලයා, සත්ත්වයා තනි තනිවත්, සාමූහිකවත් විඤ්ඤාණ ශක්තියෙන්ම, කිළිටි වූ කැමැත්තෙන්ම බැඳී ක්‍රියා කරන තුරාවට "සං" උත්පාදනය වන බවත් සමුදය ධර්මතාවය උපදින බවත් පෙන්වා වදාළ ධර්ම නියාමය පටිච්චසමුප්පාද ධර්මයයි. ප්‍රිය යැයි මනාප යැයි නිගමනය කර ප්‍රිය සංඥාවලට කැමැත්තෙන්ම බැඳෙන තුරාවට අවිද්‍යාව මුල්වී සිතින්ම සංඛාර කරයි. අවිද්‍යා සංඛාරයකට බැඳීමෙන් සමුදය ධර්මතාවය බිහිවෙයි. සංඥාවට බැඳී සංඛාර කරන තුරාවට සමුදය ධර්මතාවයට බැඳීමෙන් සංසාර ගමනද සිදුවෙයි. හේතුඵල පරම්පාවක්ද බිහිවෙයි.

"පටිඉච්ච වීම" යනු ප්‍රිය සංඥාවකට කැමැත්තෙන්ම බැඳීමයි. මේ නිසා "ඉච්ච" යන පදයේ ධර්ම අර්ථය නිවැරදිවම තේරුම් ගන්නා තාක් කෙනෙකුට නිවන් දකින්නට උපකාර වන උතුම් බුද්ධ ධර්මයද තේරුම් ගත නොහැකිය. බුද්ධ භාෂිතයේ නිතර නිතර

විවිධ ආකාරයෙන් භාවිතා වන "ඉච්ච" යන පදයේ තේරුම ධර්ම අර්ථය "කැමැත්ත" යන්නයි. සිතක පහළවන කැමැත්ත පිළිබඳවම විවිධ ආකාරයෙන් බුද්ධ ධර්මයේම භාවිතා වන තැන් කිහිපයක් ගෙන එහි අර්ථ, ධර්ම, නිරුක්ති සොයා බැලීම වැදගත්ය.

| | | |
|---|---|---|
| 01. | ඉච්ච යනු | - සිතක පහළවන කැමැත්තයි. |
| 02. | නඉච්ච යනු | - නොකැමැත්තයි. |
| 03. | අන්ඉච්ච | - අනිච්ච යනු සිතේ ඇති වූ කැමැත්ත කැමති පරිදි පැවැත්වීමට නොහැකි යන අදහසයි. |
| 04. | පටිඉච්ච | - යනු සිතක පහළවන කැමැත්තට බැඳීමයි. |
| 05. | අභිඉච්ච | - අභිජ්ඣා යනු ලෝභය, දැඩි කැමැත්ත, දැඩි ආශාවයි. |
| 06. | අප්පඉච්ච | - අල්පේච්ච යනු අල්ප වූ කැමැත්තයි. |
| 07. | විචිකිච්චා | - වි+චි+කි+ඉච්ච යනු විඤ්ඤාණ චිත්තයෙහි කිළිටි වූ කැමැත්තට බැඳීමයි. හිතට වහල්වීම - අරමණුට ගැති වීමයි. |
| 08. | උද්ධච්ච | - උද්ධ+ඉච්ච උදහස් වූ සිතක පහළවන අභිමානයයි. එසේත් නැතිනම් උදහස් වූ කැමැත්තයි. |
| 09. | කුක්කුච්ච | - පහත් වූ සිතක පහළවන හීනමානයයි. කුණු රසයන් විඳීමේ, කුණු රස බැලීමේ කැමැත්තයි. |
| 10. | මරිච්ච | - මසුරුකම සඳහා ඇතිවන කැමැත්තයි. |

හැම පෘථග්ජන මිනිසෙකුගේම සිතක් තුළ නිරතුරුවම මේ සියලු ආකාරවූ කැමති පහළ වේ. යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන්නට නොහැකි වූ කළ පටිඉච්ච වීම නියත ධර්ම නියාමයකි. යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන්නට පුරුදු පුහුණුවීමත් සමඟම හැම මිනිසෙකුටම තමාගේම සිතතුළ පහළවන කැමැත්තෙහි ස්වභාවය ස්වරූපය මැනබලා ගන්නටත් හැකියාවද ලැබෙයි. මේ ආකාරයෙන් සිතෙහිම පහළවන කැමැත්තට බැඳීමෙන්,

1. චන්දරාගයක්, කාමච්ඡන්දයක් බවට පත්වීමක් ද, චන්දරාගයෙන් බැඳීමක් ද,
11. ද්වේෂය, වෛරය නිසා පහළවන්නා වූ කැමැත්තේම දෙවෙනි වේෂයද,
111. මෝහය, අවිද්‍යාව නිසා පහළ වන මුළා වූ කැමැත්තක් ද යන කරුණු විපස්සනා නුවණින්, යෝනිසෝමනසිකාරයෙන් නිවැරදි ආකාරයටම තෝරා බේරා යථාපරිදි දැක ගන්නටත් ශක්තියද මනසටම ඇතිවෙයි. මෙවන් ප්‍රිය මධුර දෙයකට කැමැත්තෙන්ම බැඳුනොත් ඒ කැමති වූ දේ, ඒ ආකාරයෙන්ම දිගින් දිගටම පවත්වාගන්නට නොහැකි ලක්ෂණය වූ "අනිච්ච ධර්මතාවයද" දුකගත හැකිවෙයි. දුක යනුවෙන් අප අදහස් කරන වේදනාව ඇතිවන්නේ අපි කැමති වූ, ප්‍රිය මනාප වූ යම් දෙයක්, යම් කෙනෙක්, යම් තැනක් ඒ ආකාරයෙන්ම දිගටම නොපැවතී දෙවැනි ආකාරයකට දෙවැනි වේෂයකට පත්වීමේ නියත ධර්මතාවය නිසා බවද දැන් තේරුම් ගත හැකිය.

බුද්ධ භාෂිතයේ "දුක" යන පදයෙන් විග්‍රහ කළේ දෙවැනි පැත්ත යන්නයි. දෙක යන අර්ථයයි. අංගුත්තර නිකායේ "එක නිපාතයෙන්" අංග එකක් සහිත කරුණු විග්‍රහ කර ඊළගට අංග දෙකක් සහිත කරුණු විග්‍රහ කරන්නේ "දුක නිපාතයෙනි". මේ අනුව දුක යනු

සැප නමැති සංකල්පයේම දෙවැනි පැත්තයි. කිසිම කෙනෙකු දුක කැමැත්තෙන්ම අල්ලා උපාදානය කරගන්නේ නැත. සැප හඹා ගොස් සැප අල්ලා ගන්නට සැප උපාදානය කරගන්නට උත්සාහ දරණ හැම අවස්ථාවකදීම උරුම කර ගන්නේ එහි දෙවැනි පැත්ත වූ දුකයි. මේ නිසාම පළමුවන අරිය සත්‍යය වූ දුක්ඛ අරිය සත්‍යය තේරුම් ගන්නට නම් මේ ප්‍රිය මධුර දේට බැඳෙන ස්වභාවය "පටිඉච්ච" ධර්මතාවයම නිවැරදිවම තේරුම් ගත යුතුයි. පෘථග්ජන පුද්ගලයෙකු පංචස්කන්ධයම උපාදානය කරගන්නේ දැඩිව අල්ලාගන්නේ මම, මගේ කියා වෙන්කර ගන්නේ ඒ පංචස්කන්ධයේ යම් කොටසක් ප්‍රිය මනාප සේ දකින මායා දෘෂ්ඨියට බැඳීමෙනි. ප්‍රිය මනාප දේට කැමැත්තෙන්ම බැඳීම "පටිඉච්ච" ධර්මතාවයයි. "සංඛිත්තේන පංචඋපාදානස්කන්ධා දුක්ඛා" යැයි ධර්මයේ පළමුවන අරිය සත්‍යය ලෙසින් ප්‍රකාශ කළ දේ දැන් නිවැරදිවම තේරුම් ගැනීමට ඔබ සමත් වී නම් පළමුවන අරිය සත්‍යයද ඔබට අවබෝධ වෙනු ඇත. "පටිඉච්ච" තේරුම් නොගැනීම නිසාම හැම පෘථග්ජන මිනිසාම, කැමැත්තට දැඩිව බැඳී සංසාර දුකම උරුම කරගනී. මේ අනුව ලෞකික සැප විඳින්නට ලෞකික සැප සොයා හඹායන්නට උත්සාහ දරණ හැම අවස්ථාවකම නියත වශයෙන්ම දුක උරුම වන බවද තේරුම් ගත යුතුය. උපාදානය කරගත් පංචඋපාදානස්කන්ධයම තමන්ට බරක් වන බව, බැම්මකට තමන්ම බැඳෙන බව සියලු භය උපදවන්නට උපාදානය කරගත් දේම හේතුවන බව සෑම මිනිසෙකුටම තේරුම් ගත හැකිය. නමුත් හැම පෘථග්ජන මිනිසාම මේ පංචස්කන්ධයන් කොතරම් උපාදානය කරගත්තත් සෑහීමකට පත්වන්නේ ද නැත. ඊට හේතුව ධර්මයේ පෙන්වා වදාළ නියත සත්‍යයන් වන ත්‍රිලක්ඛණය තේරුම් නොගත් නිසයි.

මේ අනුව සිතකට අරමුණු වන ප්‍රිය සංඥාවලට කිළිටි වූ කැමැත්තෙන්ම විචිකිච්චාවෙන්ම බැඳී සිතටම වහල් වී කටයුතු කරන තාක් "පටිඉච්ච" වීමත් අවිද්‍යා, තණ්හා, උද්ධච්ච, කුක්කුච්ච ආදී කිළිටි ගති සිත තුළම පහළ වීමත් නිසා සං උපතක් සමුදය ධර්මයක් සිත තුළම පහළ වන බවත් නිවැරදිවම හැම මිනිසෙකුටම යෝනිසෝමනසිකාරයෙන් තේරුම් ගත හැකිය. පටිඉච්ච හේතුවයි. සං උත්පාද වීම, සමුදය වීම ඵලයයි.

## අවිද්‍යාමූල පටිච්චසමුප්පාද විග්‍රහය

විඤ්ඤාණ ශක්තිය යනු විශ්ව ශක්තියයි. උපන් හැම පුද්ගලයෙකුම සංසාර ගමනක් යන්නේ තමන්ම උපදවාගත් තම විඤ්ඤාණ ශක්තියෙනි. විඤ්ඤාණ ශක්තියට බාහිර වූ කිසිම ශක්තියක් ලොව නොපවතී. පෞද්ගලිකවම තමාටත් පොදුවේ සාමූහික ශක්තියක් ලෙසින් බාහිරවත් විඤ්ඤාණ ශක්තිය ක්‍රියාත්මක වෙයි. අපට පෙනෙන සියලු සත්ත්ව කොට්ඨාශ තුළ මෙන්ම නොපෙනෙන අනන්ත අප්‍රමාණ වූ භූත, ප්‍රේත, දේව ආදී කොට්ඨාශ සියල්ලමත් තුළ තමන්ම උපදවාගත් විඤ්ඤාණ ශක්තියක්ද පවතී. පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයෙන් බුදුපියාණන් දේශණාකර වදාළේ පුද්ගලයෙකු තුළ විඤ්ඤාණ ශක්තියක් උපදින ක්‍රියාවලිය පෙන්වා දීමයි. තම තමන්ම විඤ්ඤාණ ශක්තිය උපදවාගෙන සංසාර ගමනයාම සඳහා තමන්ම එය භාවිතා කරන ආකාරයයි. ඒ බව නොදන්නා පෘථග්ජන ලෝකයා නිරන්තරයෙන්ම උපන්දා පටන් මියැදෙන මොහොත දක්වාම සෑම උත්සාහයක්ම දරන්නේ සංසාර ගමන යාමට අවශ්‍ය වන විඤ්ඤාණ

ශක්තියම උපදවා සපයා ගැනීම සඳහා ක්‍රියා කිරීමටයි. සැප සොයා, සැප හඹායමින් දුක් විඳිනවා දුක් උරුම කරගන්නවා යනු මෙහි යථාර්ථයයි. සැප දුක් ලෙස දකින්නේ මෙයයි.

විඤ්ඤාණ චිත්තයේ මතුවන නිමිත්තකට අරමුණකට බැඳී පටිඉච්ච වී, එය දැඩි බලාපොරොත්තුවක් බවට පත්කරගත් පසු ඒ බලාපොරොත්තුව ඉටුකර ගන්නට කරන, කියන, හිතන සියලුම දේ කරන්නේ කැමැත්තෙන්මය. තමා කරන, කියන, හිතන දේට අනුරූපව තමන්ට උරුමවන ඵලය විපාකය කිනම් ආකාර වූ එකක් දැයි සිතාගන්නට හෝ දැක ගැනීමට හෝ නොහැකි වූ පෘථග්ජන ලෝකයා මායා බලාපොරොත්තුවලට රැවටී දුක්ම උරුම කරගනී. මෙය පටිඉච්චසමුප්පන්න ධර්මතාවයයි.

සංයුක්ත නිකායේ එන පච්චයා සූත්‍රයේ පටිච්චසමුප්පාදය පිළිබඳව බුදුපියාණන් විසින් ඉදිරිපත් කරන ලද විග්‍රහය තේරුම් ගැනීමෙන් සංසාර ගමනට හේතුවූ මුල්වූ කරුණු ද පැහැදිලිවම තේරුම්ගත හැකිවෙයි.

"පටිච්චසමුප්පාදඤ්ච වෝ භික්ඛවේ, දෙසිස්සාමි
පටිච්චසමුප්පනනේච ධම්මේ තං සුණාත
සාධුංක මනසි කරෝථ, භාසිස්සාමීති
කථමෝච භික්ඛවේ, පටිච්චසමුප්පාදෝ
ජාති පච්චයා භික්ඛවේ ජරා මරණං
උප්පාදාවා තථාගතානං, අනුප්පාදාවා තථාගතානං
ඨිතාව සා ධාතු ධම්මදිට්ඨිතතා, ධම්මනියාමතා,
ඉදප්පච්චයතා, තං තථාගතෝ අභිසම්බුජ්ඣති
අභිසමෙති, අභිසම්බුජ්ඣිත්වා, අභිසමෙත්වා
ආචික්ඛති, දේසේති, පඤ්ඤපේති, පට්ඨපේති
විවරති විභජති උත්තානීකරොති පස්සථාති චාහ
ජාති පච්චයා භික්ඛවේ ජරාමරණං
භව පච්චයා ජාති ....
අයං වුච්චති භික්ඛවේ පටිච්චසමුප්පාදෝ"

මෙහි තේරුම ''මහණෙනි, තථාගතයන් වහන්සේ කෙනෙකුන් ලොව පහළ වූවත්, ලොව පහළ නොවූවත් නියත වශයෙන්ම ලොව ධර්ම නියාමයන් පවතී. පටිච්චසමුප්පාද ධර්ම නියාමයද නියත වශයෙන්ම සාදාකාලිකවම ලොව පවතින්නකි.

ජරා, මරණ, දුක් උරුමවීමට මුල් වූ, ප්‍රත්‍ය වූ හේතුව ජාති (ඉපදීම) බව අභිසම්බුද්ධ ඥාණයෙන් ඉතාම උසස් ප්‍රඥාවෙන් දැන යථාභූත ඥාණයෙන්ම වටහාගත් තථාගතයින්වහන්සේ කෙනෙක්ම මෙවන් වූ පටිච්චසමුප්පාද ධර්ම ස්වයංභූ ඥාණයෙන්ම සොයා දැන මතුකර ලෝකයාට විග්‍රහ කර, විභජනය කර පනවා දේශණා කර පැහැදිලි කරන සේක. අබුද්ධෝත්පාද කාලයන්හි භාවිතයෙන් යටපත්ව පවතින මේ පටිච්චසමුප්පාද ධර්මය කාටත් තේරුම් ගන්නට හැකි පරිදි සරළ ලෙසින් විවරණය කර, විභජනය කර, විස්තර කිරීම බුදුපියාණන්වහන්සේ කෙනෙකුගේ ලොව පහළවීමේ එකම ආශ්චර්යයයි. පටිච්චසමුප්පාද ධර්මය සොයාදැන ලෝකයාට දේශණා කිරීමට නොහැකි කාල පරාසයක් අබුද්ධෝත්පාද කාලයයි. ඒ කාලයේ ද පටිච්චසමුප්පාද ධර්මය ලොව

ක්‍රියාත්මක වේ.

අවිද්‍යාමූල පටිච්චසමුප්පාද විග්‍රහයෙන් විස්තර කර පනවා වදාළේ මෙවන් සංසාර ගමනකට ලෝක සත්ත්වයා තම කැමැත්තෙන්ම බැඳෙන්නට මුල් වූ, හේතුකාරක වන්නා වූ, ප්‍රත්‍යවන්නා වූ සත්‍යය ධර්මතාවය යථාපරිදි පෙන්වා දුන් දහම් න්‍යාය මතුකර පෙන්වීමයි.

එය මෙසේ විග්‍රහ කර දෙමි.

01. ජරා මරණ ආදී දුකට හේතුව සත්ත්වයෙකුගේ උපතයි. (ජාති) ජාති ප්‍රත්‍යයෙන් ඉපදුණු නිසාම ජරා මරණාදී සියලු දුක් උරුම වෙයි.
02. ජාති (උපතක්) ඇතිවීමට හේතුව "භව" (කර්ම බීජ) පැවතීමයි. "භව" (කර්ම බීජ) ප්‍රත්‍යයෙන්ම පවතින නිසාම ජාති (උපත) සිදුවෙයි.
03. භව (කර්ම බීජ) බිහිවීමට හේතුව උපාදානයයි (පංචස්කන්ධයන්). පංචස්කන්ධයන් උපාදාන ප්‍රත්‍යයෙන්ම "භව" (කර්ම බීජ) බිහිවෙයි.
04. උපාදානය කරගැනීමට හේතුව තණ්හා වීමයි. තණ්හා ප්‍රත්‍යයෙන්ම උපාදානය (පංචස්කන්ධයන්) ඇතිවෙයි.
05. තණ්හාව ඇති වීමට හේතුව වේදනාවයි. (වින්දනයයි) වේදනා ප්‍රත්‍යයෙන්ම තණ්හාවක් ඇති වෙයි.
06. වේදනාවක් ඇති වන්නට හේතුව ස්පර්ශයයි (පස්ස). ස්පර්ශ ප්‍රත්‍යයෙන්ම වේදනාවක් ඇතිවෙයි.
07. ස්පර්ශයක් (පස්ස) ඇති වීමට හේතුව සළායතනයයි. (ඉන්ද්‍රියයන් හයම ආයතන ලෙසින් ක්‍රියාත්මක කිරීමයි.) සළායතන ප්‍රත්‍යයෙන්ම ස්පර්ශයක් ඇතිවෙයි.
08. ඉන්ද්‍රියයන් සළායතන බවට පත්වී එකතු කරගන්නට හේතුව නාමරූපයි. නාමරූප ප්‍රත්‍යයෙන්ම ඉන්ද්‍රියයන් සළායතන බවට පරිවර්තනය වෙයි.
09. සිතක නාමරූප ඇතිවීමට හේතුව (බලාපොරොත්තු) විඤ්ඤාණයයි. විඤ්ඤාණ (බලාපොරොත්තු) ප්‍රත්‍යයෙන්ම සිතක නාමරූප බිහිවෙයි.
10. විඤ්ඤාණයක් (බලාපොරොත්තුවක්) ඇතිවීමට හේතුව සංඛාරයෝයි. සංඛාර ප්‍රත්‍යයෙන්ම විඤ්ඤාණයක් සිතක හට ගනී.
11. අවිද්‍යාමූල සංඛාරයක් සිතක හටගන්නට හේතුව අවිද්‍යාවයි. (යථාවබෝධයක් නොමැති වීමයි.)

මේ පැවැත්මෙහි ඇත්ත ඇති සැටියෙන් දැකගත හැකි වන්නේ මිනිසෙකුව උපන් කෙනෙකුට පටිච්චසමුප්පාද ධර්මය පිළිබඳ සත්‍යය අවබෝධ කර ගැනීමෙන් පමණි. ඉපදීම, ජීවත් වීම, විපරිණාමය, මරණය ආදී වචනවලින් විග්‍රහ කරන සත්ත්වයෙකුගේ, පුද්ගලයෙකුගේ ඇතිවීම හා නැතිවීමට එකම හේතුව විඤ්ඤාණයට අරමුණු වන සංඛාරයන් ඇසුරු කොට සිතින් රවුම් ගසා චිත්ත ශක්තින් බිහිකර ගැනීමයි. මෙය බිහිකර ගැනීමකට වඩා එකතු කර ගැනීමකි. ඉන්ද්‍රියයන් හරහා මනෝ විඤ්ඤාණයට අරමුණු වූ සංඛාරයක් අල්ලාගෙන චිත්ත වීථි දිගේ රවුම් ගසා රාග, ද්වේෂ, මෝහ හෝ අලෝභ, අද්වේෂ, අමෝහ යන හය ආකාර වූ ගති ලක්ෂණයන්ට අදාළව චිත්ත ශක්ති එකතු කර

ගනී. මෝහය නිසාම චිත්තජ ශක්තියක්, චිත්තජ රූපයක් බවට පත්වී තම කර්මජ කෝෂයේ තැන්පත් වෙයි. මෙවැනි කර්මජ රූප කොයි මොහොතක හෝ චිත්තජ රූප නිපදවා ගත් පුද්ගලයා වෙතම ඵල විපාක ලබාදීමට සමත් ශක්තියකින්ද යුක්තය.

බුද්ධ ධර්ම විග්‍රහයට අනුව ලොව බිහිවන හැම සංඛතයක්ම, හැම සත්ත්වයෙකුම, හැම ද්‍රව්‍ය වස්තුවක්ම මූලික අවස්ථාවන් පහක්ම පසුකර වැනසී යයි. මේ අවස්ථා පහම හැම සංඛතයකටම පොදු වන අතර සිතෙහි බිහිවන හැම සංඛාරයකටමත් පොදුය.

01. උත්පාද අවස්ථාව - උදයංගම - සමුදය අවස්ථාව
02. අත්ථගම අවස්ථාව - අතුපතු හැදී වැඩෙන අවස්ථාව
03. ආස්සාද අවස්ථාව - මල් ඵල දරා ආශ්වාදයන් විඳින අවස්ථාව
04. ආදීනව අවස්ථාව - ලබන ලද ආශ්වාදයන්හි ඵලවිපාක විඳින අවස්ථාව
05. නිස්සරණ අවස්ථාව - සරණය නිමාවීම - ගමන අවසාන වීම.

සිතක බිහිවන සංඛාරයන් නිරෝධ කළේ නැතිනම් එයද පටිඉච්ච වීම නිසා කැමැත්තෙන්ම ඊට බැඳී මේ අවස්ථාවන් පහමත් පසුකර ජාති, ජරා, මරණ අවස්ථාවටම පත්වෙයි. බුදුපියාණන් දේශණා කර වදාළ අවිද්‍යා මූලයෙන් ක්‍රියාත්මක වන පටිච්ච සමුප්පාද ධර්ම ක්‍රියාවලිය මේ ආකාරයෙන් හැම සංකල්පනාවකටම, හැම සංඛතයකටම, හැම සංඛාරයකටමත් පොදුය.

මේ සියුම් ක්‍රියාවලිය, විද්‍යාත්මක ක්‍රියාවලිය සත්ත්වයෙකුගේ සිත තුළම ක්‍රියාත්මක වන ක්‍රියාවලියකි. අවිද්‍යාමූල පටිච්ච සමුප්පාද ධර්මය ගෙන හැර දක්වා බුදුපියාණන් පැහැදිළි ලෙස විග්‍රහ කරදුන් මේ ක්‍රියාවලියෙන් චිත්තජ රූපයක් බිහිකර ගන්නට උපකාර වන ''ආදී නව'' අවස්ථාත් එසේ බිහිකර ගත් චිත්තජ රූපයක ආනිසංසත් පැහැදිළි කර දුන් සේක.

යම් සංඛාරයක් චිත්තසංථානයක අරමුණු වූ වහාම එය විඤ්ඤාණයෙහි ප්‍රත්‍යය වෙයි. මෙය "පච්චයා" යන පාලි වචනයෙන් පෙන්වා දුන්හ. "පතිත" වීම, නැතහොත් "පතබැවීම" යන්න මෙහි සිංහල තේරුමයි. අවිද්‍යා මූලයෙන් උපන් සංඛාර පිළිබඳ ගෙනහැර දැක්වූ පටිච්චසමුප්පාදය ධර්මය මෙසේය.

අවිජ්ජා පච්චයා සංඛාරා
සංඛාර පච්චයා විඤ්ඤාණං
විඤ්ඤාණ පච්චයා නාම රූපං
නාම රූප පච්චයා සළායතනං
සළායතන පච්චයා ඵස්සෝ
ඵස්ස පච්චයා වේදනා
වේදනා පච්චයා තණ්හා
තණ්හා පච්චයා උපාදාන
උපාදාන පච්චයා භව
භව පච්චයා ජාති
ජාති පච්චයා ජරා මරණ ශෝක පරිදේව

දුක්ඛ දෝමනස්ස උපායාස සම්භවන්ති

එවමේ තස්ස කේවලස්ස දුක්ඛක්ඛන්ධස්ස සමුදයෝ හෝති

යනුවෙන් බුදුපියාණන් දේශණා කර වදාළ අවිද්‍යාමූල පටිච්ච සමුප්පාද ධර්මය පටිච්චසමුප්පාද විග්‍රහයන් අතරින් එක කොටසක් පමණි. මේ අවිද්‍යාමූල පටිච්චසමුප්පාද දේශණාව ඉදිරිපත් කර බුදුපියාණන් විග්‍රහ කර පෙන්වා දුන්නේ සත්ත්වයා මේ සංසාර ගමන දිගින් දිගටම නොනවත්වාම යන්නට හේතු පැහැදිළි කර දීමයි. මෙහි විස්තර වන්නේ නිවන් දැකීමට උපකාර වන ධර්මය නොව නිවන් මග වැසී තිබීමට මුල් වූ හේතූන් පැහැදිළි කර විස්තර කර දීමයි.

අවිද්‍යාව නිසා සිතකට සංඛාරයක් අරමුණු වූ වහාම එය විඤ්ඤාණයෙහි පතිත වෙයි. ඒ නිසා විඤ්ඤාණයෙහි බලාපොරොත්තුවක් හටගනී. එය අදාළ සංඛාරයට අනුරූපව ඒ ගති ලක්ෂණයට අදාළවම හටගැනීමත් සමගම ඒ බලාපොරොත්තු නාම රූප වල බැස ගනී. සළායතන වල බැස ගනී. එය උත්සාහයක් නැතිවම නිතැතින්ම අනිවාර්යයෙන්ම සිදුවන දෙයක් නිසාම පටිච්චසමුප්පාදය යන වචනය එය විස්තර කරන්නට යොදා ගත්හ. සළායතන වලින් එකක හෝ කිහිපයක බැසගත් අරමුණට සංඛාරයට අදාළ වූ ලක්ෂණයක් මනෝ විඤ්ඤාණයෙහි ස්පර්ශ වෙයි.

ඇසෙන් රූපයක් දැකීමෙන්, කනෙන් ශබ්දයක් ඇසීමෙන් ආදී ලෙස සළායතන වලින් විවිධ සංඥා මගින් අරමුණු ගනියි. රූපයක් නම් රූපය හොඳයි, ප්‍රියයි, මනාපයි යනාදී වශයෙන් රාග, මෝහ යන ගති ලක්ෂණ වලට හෝ අලෝභ, අදේෂ, අමෝහ ගති ලක්ෂණ වලට හෝ අදාළව මනෝ විඤ්ඤාණයේ ස්පර්ශ වෙයි. මේ ස්පර්ශය නිසා වින්දනයක් ලබයි. එය ප්‍රිය මනාප නම් සැප ලෙස බාර ගෙන වින්දනයක් ලබයි. එය අප්‍රිය, අමනාප එකක් නම් දුක් ලෙස වින්දනයක් ලබයි. එය අතරමැදි වේදනාවක් නම් එයින්ද අතර මැදී වේදනාවක් ලබයි. ආයතන පහෙන්ම නිබඳවම කරන්නේ මෙවැනි සංඥා මනෝ විඤ්ඤාණය වෙත එකතු කර දීමයි. මේ එකතු කර දීමේ ක්‍රියාවලිය පෙළ දහමේ හැඳින්වූයේ "සං" යන පදයෙනි. සංඛාර යන නම ලැබුනේද "සං" එකතු කරන්නට කරන ක්‍රියාවක් යන තේරුමෙනි. චිත්තසංථානයේ මෙසේ එකතු කරගත් "සං" තැන්පත් කර ගනී. ඒ නිසා ම "චිත්ත+සංථානය" යන නම ලැබුණි. මේ එකතු කරගන්නේ ගති ලක්ෂණයන්ය. චරිත ලක්ෂණයන්ය. මේ මිහිපිට පවතින සියලු ගති ලක්ෂණ බුදුපියාණන්වහන්සේ සංඛාර ලෙසින් හඳුන්වා කොටස් නමයකට විග්‍රහ කර පෙන්වා දුන්හ. ඒවා නම් රාග ගති, ද්වේෂ ගති, මෝහ ගති ලක්ෂණ අලෝභ, අද්වේෂ, අමෝහ ගති ලක්ෂණ හා ලෝභක්ඛය කරන ගති ලක්ෂණ, ද්වේෂක්ඛය කරන ගති ලක්ෂණ හා මෝහක්ඛය කරන ගති ලක්ෂණයන් යන නමයයි.

මේ විශ්වයෙහි සක්වල උපත ලැබූ හැම සත්ත්වයෙකුම, ප්‍රාණියෙකුම, භූතයෙකුම කරන සියලු සංඛාර මේ කොටස් නමයට බෙදා විග්‍රහ කළ හැකිය. හැම චරිත ලක්ෂණයක්ම මේ ගති නිසාම කෙනෙකු තුළ පහළ වෙයි. මේ ගති ලක්ෂණ වලින් බාහිර කිසිම සංඛාරයක් කිසිම සත්ත්වයෙකු, මිනිසෙකු, දෙවියෙකු තුළ පහළ නොවේ. "සං" යනු මේ ගති ලක්ෂණ එකතු කරන්නට කරන ක්‍රියාවලියයි. අවිද්‍යාවෙන් කරන සියලුම සංඛාර වලින් රාග, ද්වේෂ, මෝහ, අලෝභ, අද්වේෂ, අමෝහ යන සංඛාර හයෙන්ම "සං" එකතු

කර ගනී. "සං" එකතු කර ගැනීම නිසා වින්දනයක් සිතට අරමුණු වී ඊට පසු තැනකට හා වෙයි. තැනකට, දෙයකට, අයෙකුට, අවස්ථාවකට ධර්මයකට හා වීම "තණ්හා" වීමයි. තණ්හා වූ පසු ඒ තැන උපාදානය කර ගනී. උපාදානය යනු අල්ලා බදා ගැනීමයි. අල්ලා බදා ගැනීම නිසා ඒ ක්‍රියාවලියෙන් ආශ්වාදයක් ලබයි. ඒ තත්ත්වයට පත් වූ පසු ඒ අරමුණු කර ගත් සංඛාරයේ (රාග, ද්වේෂ, මෝහ ආදී) ගති ලක්ෂණයකට පත්වීම සිදුවෙයි. පසුව ඊට අදාළව චිත්තජ රූපයක් උපදවා ගනී. ඒ චිත්තජ රූපයක උපත "ජාති" යන වචනයෙන් පැහැදිළි කර විග්‍රහ කර දුන්හ.

මෙහිදී "ජාති" යනු ඵල විපාකයකි. චිත්තජ ශක්තියක් (ජාති) නිපදවා ගත් පසුව එය චිත්තජ රූපයක් ලෙස කර්මජ කෝෂයේ තැන්පත් වෙයි. කර්මජ කෝෂයේ තැන්පත් වූ කර්මජ රූපයක් ඵල විපාක දීමට සමත් ශක්තියකින් යුතු නිසා අහෝසි නොවූයේ නම් කවදා හෝ ඵල විපාක අත්කර දෙයි. ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දොම්නස්, උපායාස යනුවෙන් විස්තර කළේ මේ ඵල විපාක දීමයි.

මෙසේ ආයතන හයම "සං" එකතු කරන්නට උපකාර වන ක්‍රියාවලියක් සඳහා හවුල් වන නිසා ඉන්ද්‍රියයන් හයටම ආයතන හයක් ලෙසද නම් කළහ. ආයතන යනු ''එකතු කරන, අය කරන'' තැන්ය. "සං" එකතු කර මනෝ විඤ්ඤාණයෙහි ස්පර්ශ වීම නිසා ඇතිවන වේදනාව විස්තර කරන්නට "සංපස්සජා වේදනා" යන පාලි පදය යොදා ගනී. "සං" ස්පර්ශ වීම නිසා ජනිත වන වේදනාව යනු එහි තේරුමයි.

හැම පෘථග්ජන පුද්ගලයෙකුම මුළු ජීවිත කාලය තුළම මේ ක්‍රියාවලිය කැමැත්තෙන්ම කරයි. ඒ නිසාම එය "පටිච්චසමුප්පාද" යන නමින් බුදුපියාණන්වහන්සේ දේශණා කළ සේක. පටි+ඉච්ච+සං+උත්පාද යන පද හතරක් මෙහි ඇත. පටි යනු බැඳීම, බැඳ ගැනීම සම්බන්ධ වීමයි. "ඉච්ච" යනු කැමැති යන තේරුමයි. ඒ නිසා කැමැත්තෙන්ම බැඳුනු යන තේරුම පටි ඉච්ච යන්නයි. සං+උත්පාද යනු එහි ඵල විපාක ලෙස ''සං'' උපතක් ලබන බවයි. චිත්ත ශක්තියක්, චරිත ලක්ෂණයක් (භව) උපදවාගෙන ඒ ගති ලක්ෂණයට පත් වූ පසු ලැබෙන ඵල විපාක ඒ ගති ලක්ෂණයට, චරිත ලක්ෂණයට උරුම වූ සමාන ඵල විපාකයන්ම ලැබෙන බව නියාම ධර්මවලින්ද පැහැදිළිව පෙන්වා දුන් සත්‍යයයි.

මේ ක්‍රියාවලියෙන් සැප වේදනාවන් ලැබීම යනු විඤ්ඤාණය ඉන්ද්‍රියයන් උපකාරයෙන් ආහාර සොයා ගන්නට කරන මේ ක්‍රියාවලියයි. විඤ්ඤාණයට ආහාර වන්නේ ලෝභ, ද්වේෂ, මෝහ හෝ අලෝභ, අද්වේෂ, අමෝහ සංඛාරයෝ පමණි. ඒ නිසාම ඒවා අවිද්‍යාවෙන් නොදැනීම නිසාම කරන කටයුතුය. ඉන්ද්‍රියයන් පිනවීමෙන් සෑම සත්ත්වයෙකුම, පුද්ගලයෙකුම කරන්නේ මොහොතක සැපයක් පතා කටයුතු කිරීමකි. එය කැමැතිසේ පැවැත්විය නොහැකි, කැමතිසේ නොලැබෙන බව නොදන්නා නිසාම කරන දෙයකි. ඒ නිසාම මෙය මෝහයෙන්, නොදන්නාකම නිසාම කරන ක්‍රියාවකි. කිසිදිනක කිසිම පුද්ගලයෙකුට ඉන්ද්‍රියයන් පිනවීමෙන් දිගටම පැවතිය හැකි සුවයක් සැපයක් විමුක්තියක් ලැබිය නොහැකිමය.

ලෝභ, ද්වේෂ, මෝහ ගති එකතු කර ගැනීම සඳහා, විඤ්ඤාණය මේ ඉන්ද්‍රියයන් පිනවීම නිරන්තරයෙන්ම දිගින් දිගටම කරයි. ඒ ගති ලක්ෂණවලින් චිත්තය මුවහ කර වසා දමා අඳුරු කර ආසව තට්ටු එකතු කර ගැනීම නිසා දිගටම මෝහය පැවැත්විය හැකිය. මේ ක්‍රියාවලිය සිදුවන තාක්කල් විඤ්ඤාණය ඒ ගති ලක්ෂණයන් එකතු කර ගනිමින් විඤ්ඤාණයේම පැවැත්ම සඳහා ආහාර එකතු කරගනී.

විඤ්ඤාණය මේ ගති ලක්ෂණයන් එකතු කර ගැනීම මේ චරිත ලක්ෂණයන් එකතු කර ගැනීම "භව" යන තත්ත්වයට පත් වීමයි. මේ නිසාම මෝහ බව, ද්වේෂ බව, ලෝභ බව ආදී තත්ත්වයන්ට පුද්ගලයා පත්වෙයි. ඒ "භව" තත්ත්වයට පත්වීමේ නියත ප්‍රතිඵලය ඒ බවට අනුරූප වූ චිත්ත ශක්ති "ජාති" ජනිත කර ගැනීමයි. මෙතෙක් විස්තර කළ මේ ක්‍රියාවලිය මුළුමනින්ම සිදුවන්නේ සත්ත්වයෙකුගේ, පුද්ගලයෙකුගේ සිත තුළමය. සිතින් රවුම් ගැසීම කරන්නේ මේ ගතියට "භව" ට පවත්වන්නටමය.

අවිද්‍යා මූලයෙන් සිතකට අරමුණු වූ සෑම සංඛාරයක්ම මේ අවස්ථා නවයම අනිවාර්යයෙන් පසු කර "ජාති" යන චිත්ත ශක්තිය බිහි කරගනී. අවස්ථා නවය "ආදීනව" ලෙසින් පෙන් වූ අවස්ථා නවයයි.

| | | | | | |
|---|---|---|---|---|---|
| 1. | සංඛාර | 2. | විඤ්ඤාණ | 3. | නාමරූප |
| 4. | සළායතන | 5. | ඵස්ස | 6. | වේදනා |
| 7. | තණ්හා | 8. | උපාදාන | 9. | භව |

යන අවස්ථා නවය පසුකර "ජාති" තත්ත්වයට පත්වේ.

සෑම සත්ත්වයෙකුගේම සිතකට යම් සංඛාරයක් අරමුණු වූ පසුව මේ අවස්ථා නවය ඇතුළත ඒ සංඛාරයට අනුරූප වූ ගති ලක්ෂණ එකතු කර ගැනීමට ගති ලක්ෂණයට පත් වීමට සිතින් රවුම් ගසයි. රෝද කරයි. මේ රවුම් ගැසීම එක චිත්තක්ෂණයක් තුළ නියත වශයෙන්ම අඩු වැඩි කමක් නැතිවම හතර වරක් සිදු වෙයි. මෙවැනි චිත්තක්ෂණ සිය දහස් ගණනක් ලක්ෂ ගණනක් එක ගති ලක්ෂණයක් සම්පූර්ණ කර ගන්නා කාලය තුළ සිතෙහි ඇතිවෙයි. මේ මුළු කාලය තුළම ඒ ගතියට ලක්ෂණයට චරිත ලක්ෂණයට "භව" ට අදාළ ගති ගුණ එකතු කරයි. මෙය "සං" කිරීමයි.

"භව" යනු ගති ලක්ෂණයකි. තම තමන්ම තමා තුළම ඇති කරගන්නා ගති ලක්ෂණයන් "භව" යනුවෙන් පෙන්වාදිය හැකිය. දෙව් භව, මිනිස් භව, බලු භව, හොඳ භව, නපුරු භව, කැත භව , පෙරේත භව, යක්ෂ භව, මෝඩ භව, රාග භව, ද්වේෂ භව මෙන්ම සකෘදාගාමී භව, අනාගාමී භව හා අරහත් භවද මිනිසෙකුට මේ ජාතියේදීම තමා තුළම ඇති කර ගත හැකි දියුණු කරගත හැකි ගති ලක්ෂණයන්ය. ඒ ගති ලක්ෂණ වලට අනුරූපවම තමන් තුළම මේ විවිධ "භවද" දැකගත හැකි වෙයි. ද්වේෂයට පත් වූ සිතකින් කටයුතු කරණ පුද්ගලයෙකු තුළින් රෞද්‍ර බවක්, වෛරී බවක්, ක්‍රෝධ බවක්, දරුණු බවක් දැකගත හැකිය. මේ "භව" යනු ගති ලක්ෂණයක් නිසා එවන් ගති ලක්ෂණයන් තමා තුළම ඇති කරගැනීම කර්ම භව - කර්ම බීජ ඇතිකර ගැනීමයි. එවැනි යම් ගති ලක්ෂණයක් තමා තුළ ස්ථාපිත වූ පසුව, මුල්බැස ගත් පසුව ඒ ගති ලක්ෂණයන් තමා තුළින්ම නිතරම මතුවෙයි. තමා තුළින් උපත ලබන සියලු ක්‍රියා, වදන්, සිතුවිලි ඒ භවට, ඒ ගතිගුණයට, ගති

ලක්ෂණයටම අදාළ වූත්, අනුකූල වූත් ඒවාම වෙයි. මේ නිසාම මෙවැනි ගති ලක්ෂණයන් කර්ම බීජ - කර්ම භව ලෙසින් හා උත්පත්ති බීජ ලෙසින්ද ධර්යේ පෙන්වා දී ඇත. කෙනෙකු මිය යන මොහොතේ ඒ පුද්ගලයාගේ චිත්තසංථානයේ කර්මජ කෝෂයේ තැන්පත් වී පවතින මෙවන් කර්ම බීජ (භව) අතරින් බලවත්ම ගති ලක්ෂණ ධර්මතාවයෙන්ම මතු වී, ඊට අදාළ වූ උපතක් ජාතියක් උරුමවීම, ජාතියක ඉපදීම කර්ම නියාමයයි. කර්ම නියාමය වෙනස් කළ හැකි දෙයක් නොවන නිසා ඒ ඒ පුද්ගලයා ජීවත්ව සිටින කාලය තුළ යම් ගති ගුණයන් සමූහයක් බලවත් සේ පුරුදු පුහුණු කරගත්තේ නම් ඒ පුරුදු පුහුණු ගති ලක්ෂණයට අදාළ වූ, අනුරූපී වූ "භව" ට පත් වේ. ඒ භවට අනුරූපීවම ඔහුගේ මතු ජාතියේ උත්පත්තියද සිදුවෙයි. "භව පච්චයා ජාති" යනුවෙන් පටිච්චසමුප්පාද ධර්මයේ පෙන්වා දුන් නියත ධර්මතාවය මෙයයි.

නිවන් අවබෝධ කරගන්නට අවංකවම උත්සාහ කරන කෙනෙකු මුළින්ම අසා දැන තේරුම් ගතයුතු වන්නේ "උපාදාන හා භව" යන පද දෙකෙන් පටිච්චසමුප්පාද දේශණාවේ පැහැදිළි කර දුන් අර්ථ හා ධර්ම කරුණු පිළිබඳවයි.

මිනිසෙකු ලෙසින් උපත ලබා සිටින සියලු දෙනාම මනස මෙහෙයවා, කල්පනා කළ යුතු වන්නේ "උපාදානය" කරගන්නවා යන ක්‍රියාවෙහි අර්ථය කුමක්ද කියාය. පංචඋපාදානස්කන්ධය යනු කුමක්ද? උපාදානය කරගන්නා සියලු දේ අල්ලා බදාගන්නේ විඤ්ඤාණ ශක්තියෙන්ම නේද? උපන් හැම පුද්ගලයෙකුටම, සත්ත්වයෙකුටම බරක් වන්නේත්, බලයක් ලෙසින් දැනෙන්නේත්, බයක් ඇතිවන්නේත්, බැඳීමක් සිදුවන්නේත් මෙසේ උපාදානය කරගත් දේවල් නිසාම නේද? ජීවත්වන හැම පෘථග්ජන පුද්ගලයෙකුම අභ්‍යන්තර වශයෙන් උපාදානය කරගත් පංචස්කන්ධයකුත්, බාහිර ලෝකයෙන් උපාදානය කරගත් පංචස්කන්ධයකුත් ලෙස උපාදාන කොටස් දහයක්ම උපාදානය කරගෙන ඇත. මෙසේ අල්ලා බදාගෙන මම, මගේ, මගේ ආත්මය යැයි උපාදානය කරගත් කොටස් දහයම නිසා, පුද්ගලයෙකු බිමට බරවෙයි. එසේ නම් දසබිම්බර මාර සෙනඟ යනු තමන්ම උපාදානය කරගත් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන අභ්‍යන්තර පංචඋපාදානස්කන්ධය හා බාහිර පංචඋපාදානස්කන්ධයයි. මේ කොටස් දහයෙන් කිසිම කොටසක් කෙස්ගහක තරම්වත් දෙයක් තමන්ට කැමැති සේ එක දිගටම පවත්වා ගත හැකි දේවල් ද? නැත. මේ පංචඋපාදානස්කන්ධයන් නිසා කෙනෙකු බිමට බරවන්නා සේම, බාහිර පංචඋපාදානස්කන්ධයන් වන ධන බලය, නිල බලය, සේනා බලය, වත්කම්, රජ සිටුකම් ආදියත් උපාදානය කරගත් දේමය. ඒ ඒ පුද්ගලයාගේ සිතට බය ඇති වන්නේත් මේ උපාදානය කරගත් දේ තමාට අහිමි වේද? කෙනෙකු බලයෙන් හෝ සොරාගනීද? මේවා මොන ආකාරයකින් හෝ තමාට නැතිවේද? යන සිතුවිල්ල නිසාම බව තේරුම් ගත හැකිය.

උපාදානය කරගත් පංචඋපාදානස්කන්ධයම සංඛත බවත්, පටිච්චසමුප්පන්න බවත්, අනිච්ච ස්වභාවයෙන් යුතු බවත්, ඒවා අල්ලා අයිති කරගෙන සිටියොත් තමන්ම අනාථ තත්ත්වයට පත්වන බවත් යමෙකුට නිවැරදිවම තේරුම් ගන්නට ශක්තිය, හැකියාව ලැබුණොත් ඔහු දුක්ඛ අරිය සත්‍යය තේරුම් ගත් කෙනෙකු බවට පත්වෙයි.

තමා යම්කිසි දෙයක් උපාදානය කරගැනීමෙන් ප්‍රිය වස්තුවක් යැයි නිගමනය කර ගෙන එය අල්ලා අයිති කරගෙන බදාගැනීමෙන් තමාටම සිදුවන උරුම වන ඵල විපාක මොනවාදැයි තමන්ම කල්පනා කළ යුතුයි. මුලින්ම ඒ ප්‍රිය වස්තුව අයිතිකරු බවට පත්වෙයි. "උපාදාන පච්චයා භව" යනු මෙයයි. ඒ ප්‍රිය වස්තුව අයිතිකරු බවට පත් වූ පසුව, එය තමාට බලයක්, හිතට හයියක් සේ බොහෝවිට දකින්නේ විඤ්ඤාණයට වහල්වී ක්‍රියා කිරීම නිසයි. ක්‍රමයෙන් එයම හිතට බරක් බවටත්, පසුව සියලු ආකාර වූ දුක් වේදනාවන්ටත් ඒ උපාදානය කරගත් දේම හේතුවක් වෙයි. ඒ "භවට" පත්වීම නිසා ඒ භවට උරුමවන සියලු දුක් වේදනාවන්ද උරුම වෙයි. ඒ ප්‍රිය වස්තුව උපාදානය කරගෙන, ඒ වස්තුව අයිතිකාරයා බවට පත්වූයේ සැප බලාපොරොත්තුවෙනි. නමුත් ඒවා සංඛත වස්තු නිසා වෙනස් වී, විපරිණාමයට පත් වී, බලාපොරොත්තු සුන් වී යාමත් සමඟම දුකද උරුමවෙයි.

කාම උපාදාන, රූප උපාදාන, අරූප උපාදාන නිසාම කාම භව, රූප භව, අරූප භව බිහිවෙයි. කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක බිහිවන්නේද මේ ආකාරයෙන්මය. මේ තුන්ලෝකයම ඇත්තේ තමා තුළමය. මේ උපාදානයන් මෙන්ම "භව" ද එකොළොස් ආකාරයකින්ම පවතී. අභ්‍යන්තර, බාහිර, ළඟ, දුර, සියුම්, ඝන, හීන, ප්‍රණීත, අතීත, අනාගත, වර්තමාන යන එකොළොස් ආකාර වූ උපාදාන මෙන්ම "භව " අංගයෝද ඇත.

කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක යන සියලු ලෝක තමා තුළම ඒ ඒ අවස්ථාවලදීම බිහිවෙයි. මෙසේ තමා බිහිකරගත් "භව" ට පත් වූ ආකාරයට අනුවම කර්ම බීජද (ගති ලක්ෂණයන්ද) උපත ලබන නිසා තම චිත්තසංථානයේ ගබඩා වූ බලවත්ම කර්ම බීජවලට අනුරූප වූ කාම ලෝකයක, රූප ලෝකයක හෝ අරූප ලෝකයක හෝ මරණින් පසුව උපතක් ද ලබයි. මිනිස් ලෝකය හා දෙව්ලෝ ඇතුලු කාම භව එකොළහකි. බ්‍රහ්ම ලෝක සියල්ලද ඇතුලුව රූප ලෝක 16කි. ආකාසඤ්ඤායතන ආදී අරූප භව 4කි. මතු උපතක් ලබන්නට හේතුවන ප්‍රත්‍ය වන සියලු කර්ම භව (කර්ම බීජ) නිපදවා ගන්නේ මේ ජීවිතයේදීම හෝ අතීතයේ ජීවත් වූ යම් ජීවිතවලදීය. ඒ භවට අනුරූපීවම ජාතියකද උපදී. "භව පච්චයා ජාති" යනු එයයි.

පෘථග්ජන පුද්ගලයෙක්, සත්ත්වයෙක් ජීවත්වන හැම මොහොතක් පාසාම තම විඤ්ඤාණ ශක්තිය උපකාරයෙන් කරන එකම රාජකාරිය විඤ්ඤාණයේ මතු පැවැත්ම සහතික කර ගැනීම සඳහා කර්ම භව (කර්ම බීජ) උපදවා ගබඩා කිරීමයි. ඉපදි, ඉපදී මැරී මැරී යන සංසාර ගමනෙහි නිමාවක්, කෙළවරක් පිළිබඳව කෙනෙකුට සිතාගත නොහැකිවන්නේ මේ කර්ම "භව" උපදින ආකාරය තමන්ටම තේරුම්ගත නොහැකි වීම නිසයි. ඒ අවිද්‍යාවයි නොදන්නාකමයි. උපාදාන හා භව යන පදවලින් බුද්ධ ධර්මයේ, පටිච්චසමුප්පාද ධර්මයේ විග්‍රහ කර පෙන්වා වදාළ ධර්ම අර්ථය නිවැරදිවත්, පිරිසිදුවත් තේරුම්ගත් කෙනෙකුට නිවන් මාර්ගයද දැකගත හැකි වෙයි. පූර්වභාග නුවණද පහළ වෙයි. මග නැණද පහළ වෙයි. පටිච්චසමුප්පාද ධර්මය නම් උතුම් බුද්ධ ධර්මයෙන් විග්‍රහ කර විස්තර කර විභජනය කර පෙන්වා වදාළේ ඒ ඒ සත්ත්වයාගේ ම සිත තුළ චිත්තක්ෂණයක් චිත්තක්ෂණයක් පාසාම ක්‍රියාත්මක වන හේතුඵල පරම්පරාවේ හැසිරීම විග්‍රහ කර පෙන්වා දීමයි. පටිච්චසමුප්පාද ධර්මය තමා තුළින්ම තමාම තේරුම් ගත යුතු

දෙයකි. තමා තුළම ක්‍රියාත්මක වන අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්මය, තමාම නිරෝධ කර ගැනීමෙනුත් තමා තුළම ක්‍රියාත්මක කළ හැකි කුසලමූල පටිච්චසමුප්පාද ධර්මය ක්‍රියාත්මක කිරීමෙනුත්, සියලුම කර්ම බීජ, කර්ම භව උදුරා දමා තමන්ටම නිදහස් විය හැකිය. එසේ නැතිනම් සියලු කර්ම බීජ ඇහැකර පැළවෙන්නට නුසුදුසු තත්ත්වයට පත් කරගත හැකිය.

නිවන් අවබෝධ කරගන්නා හැම කෙනෙක්ම තුන්තරා බෝධියකින් එක්තරා බෝධියකට පත්ව නිවන් අවබෝධ කරගත යුතුයි. ඒ තුන්තරා බෝධි නම් ලොව්තුරා බුද්ධ, පච්චේක බුද්ධ, අරහත් බුද්ධ යන තුන් ආකාරයයි. බුද්ධ යනු බු+උද්ධ යන පද දෙක එකතු වී සෑදුනු වචනයකි. "බු" යනු භවට පත්වීම, බිහිකිරීම භව යන්නයි. උද්ධ යනු උදුරා, සහමුලින්ම උදුරා දැමීමයි. එසේ නම් බුද්ධ යනු කර්ම භව, කර්ම බීජ සහමුලින්ම ගළවා උදුරා දමා නිදහස් වීමයි. බුද්ධ භවට පත් වූවෙකු තවදුරටත් මතු උපතක් නොලබන කෙනෙකි. ඊට හේතුව මතු උපතක් ලැබීමට අවශ්‍ය කර්ම බීජ කිසිවක් ඉතිරි නොවන සේ උදුරා දමා චිත්තසංථානය ශුද්ධ පවිත්‍ර කරගෙන සිටින නිසයි. එසේ පාරිශුද්ධ තත්ත්වයට පත්කරගත් චිත්තසංථානයට අලුත් කර්ම බීජ එකතු කර, රැස් කර ගැනීමේ ශක්තික්ද නැත. ඒ නිසා බුද්ධ තත්ත්වයට පත් වීමෙන්ම භව උදුරා දැමීමෙන්ම පමණක් නිවනද, නිදහසද පූර්ණ ලෙසින්ම අත්කර ගත හැකි වෙයි.

ත්‍රිපිටක ධර්මයේ පෙන්වා වදාළ "භික්ඛු" යන පදයද මීටම සම්බන්ධ පදයකි. අංගුත්තර නිකායේ චතුර්ථක නිපාතයේ පෙන්වා ඇති පරිදි භික්ඛු යනු මහණ, මෙහෙණි, උපාසක, උපාසිකා යන සතර වර්ගයාටම භාවිතා කළ නමකි. "භික්ඛු" යනු භව බය කර දමන්නට මගපුරණ ඒ සඳහා කැප වී ක්‍රියාකරන පුද්ගලයා යන්නයි. සිවුරු පොරවාගත් භික්ෂුවද මේ කොටස් හතරෙන් එක් කොටසකි. භව යන පදය නිවැරදි ලෙසත්, පටිච්චසමුප්පාද ධර්මයට අනුවත් තේරුම් ගෙන භව බය කරන්නට අවංකවම කැපවී කටයුතු නොකරන කෙනෙකු භික්ඛු යන නාමයට කොතෙක් දුරට ගැළපේ දැයි සළකා බැලිය යුතුයි.

බුද්ධ භවට පත්වන්නට ධර්ම මාර්ගය අනුගමනය කරන සියලුම අය සෝවාන් මාර්ග භව, සෝවාන් ඵල භව, සකෘදාගාමී මාර්ග භව, සකෘදාගාමී ඵල භව, අනාගාමී මාර්ග භව, අනාගාමී ඵල භව, අරහත් මාර්ග භව, අරහත් ඵල භවටත් පත්විය යුත්තේමය. යමෙකු සෝවාන් ඵල බවට පත්වී නම් නිවන් මාර්ගයේ ස්ථාවර තත්ත්වයකටම පත්වූවා වන්නේය. සෝවාන් ඵලයට පත්වූවෙකු අරිය තත්ත්වයටද පත් වූවෙකි. මතු කවදාවත් සතර අපා දුකට පත් වන්නේ නැත. සතර අපා දුකට පත්වන ආනන්තරීය පාප කර්මයක් සිදුකරන්නේ ද නැත. මිත්‍යා දෘෂ්ඨිකයෙකු වී, ධර්ම මාර්ගයට විරුද්ධව ක්‍රියා කරන්නේද නැත. එවන් සෝවාන් මාර්ග ඵලයට පත් වූ පුද්ගලයෙකු අටවැනි භවකට පත්වන්නේ ද නැත. "නතේ භවං අට්ඨමං ආදියන්ති" යනුවෙන් රතන සූත්‍රයේ දේශණා කළේ උපත් හතක් හෝ ජාති හතක් හෝ යන තේරුමෙන් නොවේ. "භව" හතකි. මේ බව හත යන්න නිවැරදිව තේරුම් ගන්නට නම් "භව" තේරුම් ගත යුතුය. සෝවාන් බවට පත් වූ උත්තමයාගේ පළමු "භව" ඒ සෝවාන් ඵලය සහිතව මතු උපත ලබන සියලුම ජාති අයත්ය. එය මිනිස් ජාතියේ හෝ දෙව් ජාතියේ හෝ බ්‍රහ්ම ජාතියේ හෝ උපත ලබන උපත් විය හැකිය. සෝවාන් භවට

පත්වූ කෙනෙකු ධ්‍යානයන්ද ලබාගත හොත් දෙව් ජාතියේ හෝ බ්‍රහ්ම ජාතියේ උපත ලබනු ඇත. දෙවන "භව" අවස්ථාව වන්නේ සකෘදාගාමී මාර්ග භවයි. තුන්වන භව වන්නේ සකෘදාගාමී ඵල භවයි. සතරවන භව වන්නේ අනාගාමී මාර්ග භවයි. පස්වන භව අනාගාමී ඵල භවයි. හයවන භව අරහත් මාර්ග භවයි. හත්වන භව අරහත් ඵල භවයි. අනිවාර්යයෙන්ම නියත වශයෙන්ම සෝවාන් ඵලයට පත් වූ කෙනෙකු මේ "භව" හතම පසුකර යා යුතුමය. අටවැනි භවකට පත් වන්නේ ද නැත. මෙහිදී උපදින ජාති ගණන හෝ උපත් ගණන කාටවත්ම කිසිසේත්ම කිව නොහැකිය. විනාඩි ගණනක් තුළදි භව හතටම පත් වන්නටත්, උපත් සියගණනක් ඒ සඳහා ගත කරන්නටත් සිදු විය හැකිය. මේ නිවැරදි බුද්ධ භාෂිතයේ එන ධර්ම විග්‍රහයයි. භව හා ජාති යන පද දෙක තේරුම් ගන්නට නොහැකි වූ බොහෝ උගතුන් මෙය පටලවාගෙන විග්‍රහ කරයි. කාටත් විමසා බලා නිවැරදි අර්ථය තේරුම් ගන්නට යෝනිසෝමනසිකාරය අවශ්‍ය වෙයි.

සාමාන්‍ය පුද්ගලයෙකු සිතින් රවුම් ගසනවා, සිතිවිලි මවනවා, සිතුවිලි අතර අතරමං වී කල්පනා කරනවා, මනෝ විකාර කරනවා යනුවෙන් විවිධ වචනවලින් හඳුන්වන මේ ක්‍රියාවලිය කරන්නේ මුලින් පෙන් වූ අවස්ථා නවය ඇතුළත සිතුවිලි මෙහෙයවා "සං" එකතු කිරීමටයි. "භව" ට පත් වීම පූර්ණ වූ පසු සිතින් රෝද කිරීමද නවතී. දැන් චිත්ත ශක්තියක්, "ජාති" බිහිවීම එහි ඵල විපාකයයි. මුළු ජීවිත කාලය තුළම පෘථග්ජන පුද්ගලයෙකු මොහොතක් පාසාම කරන්නේ මෙවන් සංඛාර අල්ලා ගෙන සිතින් රවුම් ගසා "සං" එකතු කර චිත්තජ ශක්ති නිපදවා ගැනීමයි. එසේ නිපදවා ගත් චිත්ත ශක්තිවලට අනුරූප වූ ඵල විපාක භුක්ති විඳීමයි. ඒ ඵල විපාක විඳීම චිත්ත ශක්තිය නිපද වූ මොහොතේ සිට කල්ප ගණනක් යන තුරු කවදා හෝ ඵල විපාක ලෙසින් භුක්ති විඳියි. බොහෝ ශක්ති ඵල විපාක දීමට කලින් අහෝසි වී යාමට ද ඉඩ තිබේ.

පටිච්ච සමුප්පාද ධර්මය ලෙසින් බුද්ධ ධර්මයෙහි බුදුපියාණන්වහන්සේ දේශණා කර වදාළ ධර්මයෙන් එක මූලික කොටසක් පමණක් මෙතෙක් විස්තර කර දුන් අවිද්‍යා මූල පටිච්චසමුප්පාද ධර්මයයි. පෘථග්ජන පුද්ගලයෙකුගේ සිත මෝහයෙන් වැසී පවතිනා තාක් කල් මේ ආකාර වූ අවිද්‍යාමූල අරමුණු විනා, ඊට බාහිර අරමුණු ගති ලක්ෂණ, සංඛාර බිහි වන්නට ඉඩක් නැත. ගිහි වුවත්, පැවිදි වුවත් හැම පුද්ගලයෙකුම මෝහයෙන් කටයුතු කරයි නම් ඔහු පෘථග්ජන පුද්ගලයෙකි.

බුද්ධ ධර්මය අසා ශ්‍රවණය කර යම්කිසි ආකාරයක යථාවබෝධයක් මේ පැවැත්ම පිළිබඳව හේතුඵල ධර්මය පිළිබඳව දැනගත් පසුව මෙවන් අවිද්‍යාමූල සංඛාර නිසා තම සිතෙන්ම මේ රෝද ගැසීම කර මේ ගති ලක්ෂණ තමන්ම එකතුකර ගන්නා බව දැකිය හැකිවෙයි. තමාට අවශ්‍ය නම් උත්සාහයෙන් වීර්යයෙන් මේ ධර්මතාවය තේරුම් ගෙන සිතින් මෙලෙස රෝද ගැසීම නතර කරගත හැකි බවද දැකිය හැකි වෙයි. හේතුඵල ධර්මය අසා බණ අසා දැන ගත් පරිදි සිතන්නට පටන් ගතහොත් මෙවැනි සංඛාර අතර රෝන්ද ගැසීම, රවුම් ගැසීම, අතහැර ඉන් මිදී එවැනි ගති ලක්ෂණ චරිත ලක්ෂණ බිහි කිරීමෙන් වැළකී සිටිය හැකි බවද දකියි. මෙය ප්‍රායෝගික වශයෙන් අත්විඳ, තමාටම අත්දැක ගත හැකි දෙයක් බවද දකී.

විඤ්ඤාණය හැම වෙර වීරියක්ම යොදා මිනිසුන් මෝහයෙන් මුළාකර, මෝඩයන් බවට පත් කර රාග, ද්වේෂ, මෝහ, අලෝභ, අද්වේෂ, අමෝහ, අරමුණු ගති ලක්ෂණ එකතු කර ගැනීමට ඒවා දියුණු කර ගැනීමටම සදාකාලික උත්සාහයක යෙදී සිටී. එසේ රවුම් ගසා එකතු කරගන්නා "සං" ගති ලක්ෂණවලින් තොර නිදහස් තත්ත්වයක් ඇති වූවොත්, විඤ්ඤාණයට ආහාර නැතිව මියැදෙන්නට වන බව විඤ්ඤාණය හොඳින්ම දනී. මෙසේ විඤ්ඤාණය එකතු කර ගන්නේ කුණු ගොඩවල්ය. කිළිටි, කහට කෙළෙස්ය. පින්පව්, අකුසල් යන මොන නමින් හැඳින්වූවත් ඒ සියල්ල විඤ්ඤාණයට ආහාර වන කුණු ගොඩවල්ය. කිළිටි කහට කෙළෙස්ය. මේ කෙළෙස් නිසා කුණු නිසා කහට ගැන්වී, කිළිටි වී, අඳුරු තත්ත්වයට පත් වී, සිත, විඤ්ඤාණය ලෙසින් පැවතෙයි. කාලාන්තරයක් තුළ මෙසේ එකතු කරගත් කුණු තට්ටු කෙළෙස් ආසව ලෙසින් සිත තුළ පවතී. විඤ්ඤාණය ලෙසින් ක්‍රියාත්මක වන චිත්තය මෙසේ කුණුවලින් වැසී, අඳුරු වී පවතින තුරු මේ පැවැත්ම පිළිබඳ සත්‍යය දැක ගත නොහැකිව මෙය ප්‍රියයි, සුවයි යනුවෙන් දිගටම රිය ගමන යයි. මේ පැවැත්ම, දුක් විඳීම සංසාර ගමන වටිනා දෙයක් වැදගත් දෙයක් සුව දෙයක් ලෙසම විඤ්ඤාණය පෙන්වා දෙයි. ඒ දැකීම නිසාම නැවත නැවතත් ඒ ගති ලක්ෂණයටම පත්වී නැවත නැවතත් කුණු එකතු කර ගනී. සත්‍යය දකින්නට කොහෙත්ම ඉඩක් නොදී සංසාර ගමන ප්‍රිය මනාප දෙයක් සේ සුව සැප දෙයක් සේ මායා දර්ශන මවා පා මෝහයෙන් මුළා කරවයි.

මේ ආකාරයට හේතු ප්‍රත්‍යයන් විභජනය කර විස්තර කර බෙදා දක්වා වදාළේ ලෝක සත්ත්වයා අවිද්‍යාව නිසාම ඇත්ත ඇති සැටියෙන් තේරුම් නොගැනීමේ හේතු නිසාම දිගින් දිගටම මේ සංසාර ගමන සාරවත් එකක් සේ දැක ගන්නා මායා දර්ශනය (සක්කාය දිට්ඨිය) නිසාම සංසාරයේ අතරමං වී මංමුළා වී ගමන් කරන බව පෙන්වා දීමටයි. මෙහි දැක්වෙන්නේ අවිද්‍යාව මූලික වී සිදුවන පටිච්චසමුප්පාද ධර්මය විග්‍රහ කර පෙන්වා දුන් ආකාරයයි. මේ ක්‍රියාවලිය පෘථග්ජන සිතක හැම මොහොතක් පාසාම ක්‍රියාත්මක වන්නකි. මෙහි දක්වා වදාළ අවිද්‍යා මූලික පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහය යථාපරිදි යථාභූත ඥාණයෙන්ම තේරුම් ගත යුතු දෙයකි. මෙහි නිවන් මඟක් දක්වා නැත. මෙහි දක්වා ඇත්තේ නිවන් මඟ වැසී යටපත් වීමට හේතුවයි. ප්‍රත්‍ය වන කාරණාවෝයි. ඒවාගේම සංසාර ගමනට හේතුවයි. සංසාර ගමනට නිදාන වූ සමුදය වූ ධර්මතාවයි. අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්මය මනාකොට දැන අවබෝධ කරගත් කෙනෙකුට මිස

1. අවිද්‍යා මූල පටිච්චසමුප්පාද නිරෝධ කරන්නට නොහැකියි
2. කුසලමූල පටිච්චසමුප්පාද දැන, භාවිතා කරන්නටද නොහැකියි

මෙතෙක් විස්තර කරන ලද අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ක්‍රියාවලිය පහත ආකාරයට සාරාංශ කර පෙන්විය හැකිය.

අතීතයේ එකතුකර, ගබඩා කරගත් කාමාසව, භවාසව, දිට්ඨාසව, අවිද්‍යාසව තම චිත්තසංථානයේම ගබඩා වී රැඳී පවතින තුරාවට ඒවා ආශ්‍රයෙන්ම සිතේ කාම විතර්ක, ව්‍යාපාද විතර්ක, පාප විතර්ක මතුවේ. මෙසේ මතුවන්නට එකම හේතුවද එවන් ගති ලක්ෂණයන් අතීතයේ කවදා හෝ කාලයකදී තමන්ම තම කැමැත්තෙන්ම උපාදානය කර ගෙන අල්ලා බදාගෙන තම චිත්තසංථානයේ ඒවා තැන්පත් කරගත් නිසාමයි. මෙම ගති

ලක්ෂණයන් කර්ම බීජ, "භව" ලෙසින් ධර්ම විග්‍රහයේ පෙන්වා දුන්හ. මෙවන් ගති ලක්ෂණ, කර්ම බීජ චිත්තසංථානයේ ගැබ් වී පවතින්නේ නැතිනම් එවන් ගතිගුණ, ගතිහඬ, ගතිබව, ගතිරුව තමා තුළින් මතුවන්නටද හේතුවක් නැත. මෙවන් ගති ලක්ෂණයන් තමා තුළම ගැබ්වී පැවතීම හුරුපුරුදු, ඇබ්බැහිකම්, චර්යා රටාවන් ලෙසින් ද අපි නම්කර ව්‍යවහාර භාෂාවෙහි භාවිතා කරන්නෙමු. මෙවන් ගති ලක්ෂණ කර්ම බීජ චිත්තසංථානයේ ගැබ්වී පවතිනතාක් කල් සිතට අරමුණු ලැබීම, නිමිති ලැබීම, හැඟීම් ඇති වීමද සිදු වෙයි. ඇසට රූප සංඥාවක් ලැබීම නිසා ඒ රූපය ප්‍රිය මධුර දෙයක් සේ, තමාට හුරු පුරුදු දෙයක් සේ දකින්නේ පෙර සංසාරයේ පුරුදු වූ අතීත ගති ලක්ෂණයක් නිසාමය. එසේ රූප සංඥාවක් ප්‍රිය එකක් සේ දකින නිසාම එයට බැඳෙයි. මෙය කැමැත්තෙන්ම බැඳීමකි. මෙය "පටිඉච්ච" ලෙසින් ධර්මයේ පෙන්වා දී ඇත. මේ ආකාරයට ප්‍රිය රූප, ප්‍රිය ශබ්ද, ප්‍රිය ගඳ සුවඳ, ප්‍රිය රස, ප්‍රිය ස්පර්ශය, ප්‍රිය මතක සටහන් යන හය ආකාර වූ සංඥා නිසාම අවිද්‍යාමූල සංඛාරයෝ සිතක බිහිවෙයි. පෘථග්ජන සත්ත්වයෙකු, පුද්ගලයෙකු ජීවත්ව සිටින හැම මොහොතක් මොහොතක් පාසාම මෙවැනි මධුර සංඥාවන්, සංඛාර ලෙසින් ඇතුළට ගෙන බලාපොරොත්තු සිතේ ඇති කර ගැනීමත් (විඤ්ඤාණයක් පහළවීම) ඒ බලාපොරොත්තුවට අදාළ වූ නාම රූප සිතේ පහළවීමත් ඒවා ස්පර්ශ වීමෙන් වේදනාවක්, ඉන්ද්‍රියයන් පිනවීමේ කැමැත්තක් ඇතිවීමත් නිසා ඒ ප්‍රිය සංඥාවලට අදාළ වූ දේ සමඟ එක්වීම, තණ්හාවීම හා ඒ ප්‍රිය මධුර දේ උපාදානය කර මගේ කර ගැනීම අපේ කර ගැනීම යන ක්‍රියාවලියම අවිද්‍යා මූලිකව සිතක් තුළම සිදුවන ක්‍රියාදාමයයි. මේ ක්‍රියාදාමය අවසන් වන්නේ "සමුදය" ධර්මයක් බිහිවීමෙනි. සමුදය යනු සංඛතයක් හෝ සංකල්පනාවක් හෝ උත්පත්ති කරන්නට සමත් කර්ම බීජයක් බිහිවීමයි. එවන් කර්ම බීජයක් පැළවීම "ජාති" තත්ත්වයට පත්වීමයි. උපතක් ලැබීමයි. මේ උපත යනුවෙන් ධර්මයේ පෙන්වා වදාළ ධර්මතාවය පංචඋපාදානස්කන්ධය එකතු කර සකස්කර ගන්නා සංඛතයක් හෝ සංකල්පනාවක උපතයි. මිනිසෙකු, සත්ත්වයෙකු ජීවත්වන හැම මොහොතකම මේ උපත "ජාති" වීම සිදුවෙයි. ඒ උපදින උපදින සංඛත ඒවායේ ශක්තිය ගෙවී යාමත් සමගම නිස්සරණයට පත් වී, විනාශ වී, ගෙවී, මැරී යයි. මේ ක්‍රියාදාමය සත්ත්වයෙකු, පුද්ගලයෙකු ජීවත්ව සිටින හැම මොහොතකම ක්‍රියාත්මක වන හේතුඵල පරම්පරාවක් ක්‍රියාත්මක වීමයි. හැම චිත්තක්ෂණයකදීම මේ හේතුඵල පරම්පරාවටම සම්බන්ධ පටිච්චසමුප්පාද ක්‍රියාවලියද සිදුවෙයි.

## අවිද්‍යාමූල පටිච්චසමුප්පාද නිරෝධ විග්‍රහය
## නිරෝධ කිරීම යනු කුමක්ද?

නිරෝධ "නිරුද්ධ" යන බුද්ධ භාෂිතයෙහි සඳහන් වචනයට සිංහල පදයක් සොයා ගැනීමට නොහැකි වූ බොහෝ ආචාර්යවරු තම පොත්වල "නැති" කිරීම ලෙස මෙය සිංහලයට පරිවර්තනය කර ඇත.

මේ නිසාම "නිරෝධ කිරීම" යන්නෙහි තේරුම කුමක්දැයි සැක හැර දැන ගැනීම නිවන් මඟ සොයන කෙනෙකුට බෙහෙවින් උපකාර වනු ඇත. බුදුපියාණන්වහන්සේ මෙන්ම අරහත් තත්ත්වයට පත් වූ සියලුම උත්තමයින්ද සංඛාර නිරෝධ කළ බව, විඤ්ඤාණ නිරෝධ කළ බව, සළායතන නිරෝධ කළ බව ප්‍රකාශිතය. සළායතන යනු ඇස,

කන, නාසය, දිව, කය, මනස යන ඉන්ද්‍රියයන් හය එකතු කරන තැන් බවට පත්කර ගැනීමයි. ආයතන බවට පත්කර ගන්නා මෙම ඉන්ද්‍රියයන් කිසිවක් අරහතුන්වහන්සේ නමක් නැති කළේ නැත. නිරෝධ කිරීමක් පමණක් සිදු කරන ලදී.

ඇසින් රූපයක් දුටු විට ඒ රූපය පිළිබඳව යම් රාගයක්, කැමැත්තක් හට ගනී නම් චක්ඛු විඤ්ඤාණයක් හට ගනී. විඤ්ඤාණය ඒ රූපය දැකීම නිසා සංඛාර කරමින් සිතෙන් ප්‍රිය රූපය වටේ රවුම් ගසයි. විවිධ ආකාරයේ සිතුවිලි මවමින්, දහසක් අරමුණු සිතින් මවා ගනී. කටින් වචන පිට කිරීමට හෝ කයෙන් ක්‍රියා කිරීමට හෝ පෙර සිතින් කරන මේ රවුම් ගැසීම මේ රූපය ප්‍රියයි, මනාපයි, හැඩයි යනුවෙන් එය සිතින් අල්ලා ගැනීමට නැවත නැවතත් දැකීමට සිතුවිළි පහළ කිරීම මේ රවුම් ගැසීමයි. මෙය රෝද ගැසීමකි. සිතින් රෝද කිරීමකි. කර්මජ බීජ උපත ලබන්නේ මේ අනුවය.

පෘථග්ජන සිතක සාමාන්‍ය හැසිරීම ප්‍රියයි, මනාපයි, සුවයි වැනි "සං" බිහිකරන සිතුවිල්ලක් වටා දහසක් මතක සටහන් බිහිකර, සිතින් රවුම් ගසා ඒ වටාම කැරකීමයි. "සං" නැමති ජවයක් බිහි කිරීමයි. ඒ දුටු රූපය දෙස නැවත බලන්නේ ඒ ගැන විපරම් කරන්නේ කාගේ කවුදැයි සොයන්නේ ඒ නිසාමය.

යම් සත්‍යාවබෝධයක් ලබාගෙන සිතින් රවුම් ගැසීම, රෝද කිරීම නවතා දැමිය හැකි නම්, එය නිරෝධ කිරීමකි. මේ නිරෝධ කිරීම සඳහා "සං" දැකිය යුතුය. එහි ධර්මතාවය දැකිය යුතුය. ඒ නිසාම ඒ පිළිබඳ සත්‍යය ධර්මය දැකීම "සංදිට්ඨිකෝ" නම් වෙයි.

මේ නිරෝධ කිරීමේදී ඇස නැති කළේ නැත. ඇසෙහි ක්‍රියාකාරීත්වය නැති කළේ නැත. දුටු රූපය නැති කළේ නැත. ඒ රූපය දුටු සිත නැති කළේ නැත. නැති කළ එකම දෙය ඒ රූපය දැකීමෙන් සිතෙහි හටගත් මනෝ විඤ්ඤාණය ඔස්සේ රෝද කිරීම, රවුම් ගැසීම නිසා එකතු කරන "සං" නැමති ජවය එකතු කිරීම නැවැත්වීම පමණි. එය නිර්උදා කිරීමයි.

ඇසින්, කනින්, නාසයෙන්, දිවෙන්, කයෙන්, මනසින් මෙවැනි අරමුණු සිතට ඇතුලු වී විඤ්ඤාණයෝ උපදිති. මේ සියලු විඤ්ඤාණයෝ එකතු කර, රවුම් ගසන්නේ සිතින්මය. ඒ නිසා නිරෝධ කළ යුත්තේ සිතින් රවුම් ගැසීමය. එය සිත නිරෝධ කිරීමය.

ඇස, කන, නාසය, දිව, කය, මනස යන මේවා ඉන්ද්‍රියයන්ය. මේවා ආයතන ලෙසද හඳුන්වන්නේ ඒවායෙහි යමක් එකතු කිරීමේ ශක්තියක් ඇති නිසාය. ආයතනයක් යනු යමක් (අය කරන තැන) එකතු කරන තැන යන අර්ථයෙනි. මේ ඉන්ද්‍රියයෝ විඤ්ඤාණය ශක්ති ගැන්වීමට, බලගැන්වීමට, කහට ගැන්වීමට ආහාර එකතු කරයි. එසේත් නැතිනම් "සං"එකතු කරයි. එකතු කරන ස්ථාන යන අර්ථයෙන්ම මේ ඉන්ද්‍රියයන් හයම ආයතන ලෙස හඳුන්වයි.

ආයතනයෝ නිරෝධ කරනු මිස ඉන්ද්‍රියයෝ නිරෝධ කළ නොහැකිය. නිරෝධ කිරීම මගින් සිදුවන්නේ ඉන්ද්‍රියයන් මාර්ගයෙන් "සං"එකතු වීම නැවැත්වීමයි. සියලු පෘථග්ජන සත්ත්වයින්ගේ ඉන්ද්‍රියයන් ආයතන බවට පත් වී ක්‍රියාත්මක වෙති. "සං" දැක, "සං දිට්ඨිකෝ " වී, ඒ රෝද ගැළවීම නිරෝධ කිරීමයි. සිත නිරෝධ කිරීමෙන් කර්මබීජ වල උපත ලැබීම නවතා නිර්උදා වීම සිදුවෙයි.

## සංඛාර නිරෝධයේ සිට භව නිරෝධය දක්වා

"නිරෝධං අප්පජානන්ථා - ආගන්තාරෝ පුනබ්භවං" නිරෝධ කිරීම යනු කුමක්දැයි නිවැරදිව, ප්‍රත්‍යක්ෂ ලෙසින්ම තේරුම් නොගැනීමත් ප්‍රායෝගික වශයෙන් නිරෝධ කරන ආකාරය ගැන තේරුමක් නොමැති වීම නිසාම ගති ලක්ෂණයන් (භව) එකතු කර ගැනීමෙන් පුන පුනාම, නැවත නැවතත් නොදන්නාකමෙන් දිගින් දිගටම, භවට පත් ව සංසාර ගමන යයි යනු මෙහි තේරුමයි.

පටිච්ච සමුප්පාද ධර්මය දේශණා කර බුදුපියාණන්වහන්සේ ලෝකයාට පැහැදිළි කර වදාළේ "භව" උපදින ආකාරයත්, "භව" නිරෝධ කර ගැනීමට නම් අනුගමනය කළ යුතු නිසි ක්‍රියාමාර්ගයත් පිලිබඳවයි. "භව" නිරෝධය යනු නිවන ලෙසත් බොහෝමයක් තැන්වල පෙන්වා දී තිබේ. පටිච්චසමුප්පාද දේශණාවට අනුව සංඛාර නිරෝධයේ සිට "භව" නිරෝධය තෙක් ''ආදී නව'' අවස්ථාවලදීම "භව" නිරෝධ කරගත යුතු බවත් "ජාති" නිරෝධ කරගත හැකි වන්නේ සංඛාර නිරෝධයේ සිට "භව" නිරෝධය තෙක් අවස්ථා නවයක් තුළදීම "භව" නිරෝධ කර ගැනීමෙන්ම බවත් පටිච්චසමුප්පාද ධර්මයෙන් ඉතාම පැහැදිළිව පෙන්වා දී ඇත.

කරුණු නිවැරදිව තේරුම් නොගෙන විශේෂයෙන්ම හේතුඵල දහමත්, ද්වතාවත් තරමක් දුරට හෝ නිවැරදිව තේරුම් නොගෙන ''සත්ත්වයෙකු, පුද්ගලයෙකු ලෙස ගත් දෘෂ්ඨියෙන්ම මිදිය යුතුය" යන්න කල්පනා නොකර ඒ වෙනුවට ඵලයෙන්ම නිදහස් වීමට උත්සාහ කිරීම අද බොහෝ දෙනෙක් නිවන් අවබෝධ කර ගැනීමට උත්සාහ දැරීම ලෙස හඳුන්වයි. මෙම සත්ත්ව, පුද්ගල සංකල්පය, මේ පංචස්කන්ධය ඵලයක් බව තේරුම් නොගෙන මෙම පංචස්කන්ධයෙන්, සත්ත්ව පුද්ගල තත්ත්වයෙන් මුළුමණින්ම නිදහස් වීමට අද බොහෝ දෙනා උත්සාහ ගනිති. ඒ භව නිරෝධ කිරීම යනු කුමක්දැයි නොදන්නාකම නිසාවෙනි.

මම යන පුද්ගලයා, සත්ත්වයා යන පංචස්කන්ධය බිහි වූයේ ඇයි? මීට හේතු මොනවාද? ඒ හේතුවලින් නිදහස් වීමට නම් කුමක් කළ යුතුද? මෙවැනි ප්‍රශ්න සඳහා හේතුඵල දහම තුළින්ම කරුණු කාරණා තේරුම් කර ගැනීමෙන් මිස "භව නිරෝධය" යන වචන තුළින් අදහසක් ගත නොහැකියි. "භව නිරෝධ" යන වචන දහස්වරක් කීවද, මේ වචනවලින් බුදුපියාණන්වහන්සේ අදහස් කළ දේ නිවැරදිව තේරුම් ගැනීමට නොහැකි නිසාම අද බොහෝමයක් මිනිසුන් සංසාරේ අතරමං වී මංමුළා වී කටයුතු කරති.

"භව" යනු උපතක්, ජාතියක් ලෙසින් වැරදි ආකාරයට තේරුම් ගෙන කටයුතු කිරීම පළමුවන වරදයි. ලෝක සම්මතයෙහි "භව" යන පදය පෙර ජාතිය, මතු ජාතිය, මේ ජාතිය

ආදී වශයෙන් ජාතිය තේරුම් කිරීමට යොදා ගන්නා පදයකි. මෙහිදී "භව" යනුද උපතකි. එය නිවැරදි යෙදීමකි. නමුත් "උපාදාන පච්චයා භව" "භව පච්චයා ජාති" යනුවෙන් බුදුපියාණන් පටිච්චසමුප්පාද දේශණාවේ ගෙන හැර දක්වූ "භව" යන පදය සත්ත්ව, පුද්ගල උපතක් හැඳින්වීමට භාවිතා කළ වචනයක් නොවේ. එහිදී භව යනු ගති ලක්ෂණ, චර්යා රටා, හුරු පුරුදුකම් ආදියේ උපතයි. ගති උපතයි. සත්ත්වයෙකු, පුද්ගලයෙකු ගති ලක්ෂණ පුරුදු කර ගැනීම නිසා ඊට අදාළ චිත්තජ ශක්තීන් උපදවා ගෙන (ජාති) ඒවා කර්මජ කෝෂයේ තැන්පත් කර ගබඩා කර ගැනීමේ ක්‍රියාවලිය පටිච්චසමුප්පාද ධර්මයෙන් මෙහිදී පැහැදිළි කරන ලදී. ඒ චිත්තජ ශක්තීන් නිපදවීම "ජාති" ලෙස පෙන්වා දී ඇත. ඒ චිත්තජ ශක්තීන් කර්මජ රූප ලෙස ඵල විපාක දීම සත්ත්වයාගේ, පුද්ගලයාගේ මතු උපතක් ලැබීමට හේතුවන එකම ක්‍රියාවලියයි.

මෙම කරුණු නිවැරදිව තේරුම් ගැනීමෙන් පමණක් "භව" නිරෝධ කිරීමටත් නිවන තේරුම් ගැනීමටත් හැකියි. මෙහි නිරෝධ යන වචනෙහි නිරුද්ධ කිරීම නැති කිරීම යන අර්ථයක් අද ලෝක ව්‍යවහාරයේදී භාවිතා වේ. නිරෝධ කිරීම යනු නැති කිරීම නොවේ. නිරෝධ යන පදයේ ද්වතාවය මුලින්ම දැකගත යුතුයි. රෝද - නිරෝධ යනු මෙතන ද්වතාවයයි. රෝද තේරුම් නොගෙන රෝද කිරීම කරන ආකාරය නොදැක නිරෝධ කිරීම යන්න තේරුම් ගැනීම කිසිසේත් කළ නොහැකියි.

සත්ත්වයෙකු, පුද්ගලයෙකු සංඛාර කිරීම යනු "සං" එකතුකර ගැනීමට කරන ක්‍රියාකාරකමකි. "සං" එකතු කිරීමට කරන සෑම ක්‍රියාකාරකමක්ම උපත ලබන්නේ සිතකමයි. මුලින්ම අරමුණක්, බලාපොරොත්තුවක් සිතට මනසිකාරයක් ලෙස ලැබුණු වහාම සිත තුළදීම රෝද ගසා, සිතුවිලි අතර රවුම් ගසා චිත්ත වීථි දිගේ දුවමින් රවුම් ගැසීමෙන් පසුව නිගමනයකට එනම් "භව" ට පත්වේ. යම් ගති ලක්ෂණයකට පත් වීමට පෙර සෑම අරමුණක්ම සිත තුළදී සිතා කල්පනා කර, සැලසුම් කර, දහ අතේ කල්පනා කර නිගමනයට බහී. මේ සිත තුළදීම දහ අතේ කල්පනා කර රවුම් ගැසීම, රෝද කිරීම යනුවෙන් ධර්මයේ පැහැදිළිවම හඳුන්වා දී තිබේ. මෙයම ප්‍රපංචතාවය යනුවෙන්ද හඳුන්වයි.

සිතක පහළවෙන අවිද්‍යා සංඛාර සියල්ලම අල්ලා, සිත තුළින්ම රවුම් ගසා, බලාපොරොත්තු ඇතිකර, ඉන්ද්‍රියයන් හරහා ඒවා පිළිබඳව විවිධ ආකාරයෙන් සිහින මවමින්, ඉන්ද්‍රියයන් පිනවා, ඊට තණ්හා වී, ඒවාම උපාදානය කර ගැනීම මඟින් අවසානයේ "භව" යන ගති ලක්ෂණයකට පත්වී, චිත්තජ ශක්තියක් එකතු කර ගනී. මේ ක්‍රියාවලිය "අවිද්‍යා සංඛාර පච්චයා අවිද්‍යා විඤ්ඤාණ" පටන් "අවිද්‍යා භව පච්චයා අවිද්‍යා ජාති" තෙක්ම පටිච්ච සමුප්පාද දේශණාවෙන් බුදුපියාණන් ගෙනහැර පා වදාළහ.

චිත්තජ ශක්තියක්, චිත්තජ රූපයක්, සත්ත්වයෙකුගේ, පුද්ගලයෙකුගේ සිතේ බිහි විය හැකි එකම ක්‍රමය නම් මේ සිතින් රවුම් ගැසීමේ ක්‍රියාවලියයි. චිත්තජ ශක්තියක් බිහිවීමට මේ රවුම් ගැසීමේ ක්‍රමය මිස වෙනත් කිසිම ක්‍රමයක් ඇත්තේත් නැත.

මේ කරුණු කාරණා සහ ''ආදී නව'' අවස්ථාවත් අසා දැන, තේරුම් ගැනීමෙන්

චිත්තජ ශක්තියක් සිතක බිහිවීම වළක්වා ගැනීමට කළ යුතු නිවැරදි දේ තේරුම් ගත හැකියි. සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ස්පර්ශ, වේදනා, තණ්හා, උපාදාන, භව යන අවස්ථා නමයේදීම සිතින්ම අරමුණ දිගේ රවුම් ගසයි. ඒ අවස්ථා නවය තුළදීම කරන රෝද ගැසීම නැවැත්වීම නිරෝධ කිරීමයි. නිරෝධ යනු යමක් නැති කිරීමක් හෝ නිරුද්ධ කිරීමක් හෝ නොවේ. සිතුවිලි අතර රවුම් ගැසීම, රෝද කිරීම නවතා දැමුවහොත් "ජාති" යන අවස්ථාවට සිත පත් වීමක් සිදුනොවේ. ඒ නිසා නිරෝධ කිරීම යනු සිතින්ම කරන රෝද, නිරෝධ කිරීම බව නිවැරදිව මුලින්ම තේරුම් ගත යුතුයි.

සිතකට අරමුණු වන සියලුම මනසිකාරයන් ගති ලක්ෂණ උපදවන චිත්තජ ශක්තීන් එකතු කරන අවිද්‍යා සංඛාර නොවේ. සිතකට අරමුණු වන මනසිකාර කොටස් තුනකට බෙදා පෙන්විය හැකිය.

1. අවිද්‍යා සංඛාර
2. සංඛාර නොවන මනසිකාර
3. කුසලමූල අරමුණු

මේවා අතරින් අවිද්‍යා සංඛාරවලින් පමණක් "සං" එකතු කරන ගති ලක්ෂණ එකතු කරන (භව) චිත්තජ ශක්තීන් බිහිකරන කොටසට අයත් වේ. මේ නිසා සිතකට අරමුණු වන අවිද්‍යා සංඛාර හා කුසල මූල අරමුණු වෙන් කර තෝරා බේරා දැනහැඳින ගෙන කටයුතු කිරීම "සතියේ" පිහිටා කටයුතු කිරීමයි, සත්‍යය දැකීම, සතියෙහි පිහිටීමයි.

අවිද්‍යා සංඛාරවලින් එකතු කරන "සං" නිසා සංසාර ගමන පවත්වයි. ඒවා පින් පව් දෙකම විය හැකියි. හොඳ යහපත්, නරක අයහපත් ගතිගුණ ද විය හැකියි. සිත පිනා යන චිත්තජ ශක්තීන් එකතු කිරීම පින්කම් ලෙසිනුත්, සිත කිළිටි කර අඳුරු කරන චිත්තජ ශක්තීන් පව්කාරකම් ලෙසිනුත් හැඳින්විය හැකිය. මේ කොටස් දෙකෙන්ම චිත්තජ ශක්තීන් නිපදවන නිසා කොටස් දෙකම අවිද්‍යා සංඛාර ලෙස හඳුන්වයි. මේ සියල්ලම සංසාර ගමන දිගින් දිගටම පවත්වාගෙන යෑමට පමණක් උපකාර වන චිත්තජ ශක්තීන්ය.

සංඛාර කොටසට අයත් නොවන මනසිකාර එළොවටත් නැති, මෙළොවටත් නැති චෛතසික පමණි. කුසලමූල අරමුණු යනුවෙන් හැඳින්වෙන්නේ මෙතෙක් සංසාර ගමනේදී අතීතයේ එකතු කරගත් චිත්තසංථානයේ, කර්මජ කෝෂයේ ගබඩා වී පවතින චිත්තජ ශක්තීන් කර්මජ රූප සළාහැර, පිරිසිදු බවට පත්කරවන අරමුණුයි. මේවා කුසල් ලෙස හඳුන්වන්නේ කුණු සළාහැර, සිත පිරිසිදු තත්ත්වයට පත්කර ගැනීමට උපකාර වන අරමුණු පැවැත්වීමක් නිසයි. ලෝභක්ඛය කරන අරමුණු, ද්වේෂක්ඛය කරන අරමුණු, හා මෝහක්ඛය කරන අරමුණු පැවැත්වීම කුසල් පිරීමයි. සංසාර ගමනේ මතු මතුත් උපත් ලැබීමට හේතු වන්නේ මේ පෙර අතීතයේ එකතු කර ගබඩා කරගත් චිත්තජ ශක්තින්, කර්මජ රූප ලෙසින් ක්‍රියාත්මක වීමයි. මේ කර්මජ රූප සළාහැර, සිත ශුද්ධ පවිත්‍ර කර ගැනීම ලෝකෝත්තර කුසල් පූර්ණය කිරීමයි. මෙම අවස්ථා දෙකම නිවැරදිවත් පහැදිළිවත් තේරුම්ගත යුතුයි.

1. අවිද්‍යා සංඛාර කරමින්, සිතින් රෝද කරමින් ගති ලක්ෂණ එකතු කිරීම (භව) හා ඒ අනුව චිත්තජ ශක්තීන් (ජාති) නිපදවා ගබඩා කර ගැනීම පළමුවන අවස්ථාවයි. මේ චිත්තජ ශක්තීන් එකතු කිරීම, බිහිකිරීම නැවැත්වීමට නම් රෝද, නිරෝධ කළ යුතුයි.

2. එකතුකර ගබඩා වී ඇති අතීත ගති ලක්ෂණවලට අදාළ චිත්තජ ශක්තීන් කර්මජ රූප ලෙසින් චිත්තසංථානයේ මෙන්ම කර්මජ කෝෂයේ ද තැන්පත් වී ඇති නිසා ඒවා අරමුණු ලෙස සිතෙහි මතු වී ක්‍රියාත්මක වීම දෙවන අවස්ථාවයි. මේ අතීතයේ එකතු කරගත් චිත්තජ ශක්තීන් හෝ කර්මජ රූප සළාහැර ශුද්ධ පවිත්‍ර කර ගැනීමට නම් රෝද නිරෝධ කිරීම මෙන්ම කුසල් පිරීම ද යන දෙකම කළ යුතුයි. ඒ කුණු සළාහැර ශුද්ධ පවිත්‍ර වීමද කළ යුතුමයි.

"අසේස විරාග නිරෝධෝ, චාගෝ පටිනිස්සග්ගෝ මුත්ති අනාලයෝ" යනුවෙන් දුක්ඛ නිරෝධ අරිය සත්‍යය නිවැරදිව තේරුම් ගැනීමට නම්, මේ වචනවල ද්වතාව ද තේරුම් ගත යුතුයි. (දුක්ඛ සුඛ, නිරෝධ රෝද, අරිය රිය, සත්‍යය අසත්‍යය) සත්‍යය තේරුම් ගැනීමට නොහැකිවීම නිසා, නොදැනීමෙන් කටයුතු කරන නිසා සැප සොයා රෝද කරමින් යන මේ රිය ගමන සංසාර ගමනයි. මේ සංසාර ගමන නැවැත්වීමට නම් රෝද - නිරෝධ කිරීම එකම ප්‍රතිකර්මයයි. රෝද නිරෝධ කළ හැකි වන්නේ පැවැත්මේ නියම තත්ත්වය ත්‍රිලක්ඛණය තේරුම් ගෙන සත්‍යාවබෝධය කරගැනීමෙන්ම පමණි. රෝද-නිරෝධ කර, රාග - විරාග කර, රිය අරිය කිරීම කරගත හැකි වන්නේද ඒ අනුවමයි.

රෝද කිරීමට හේතු වන්නේ සිතින්ම සංකල්පනා හා කල්පනා පැවැත්වීමයි. (සංකල්පනාව යනු "සං"- එකතු කිරීම, කල් - කාලය, පනා - පිරීම) අතීතය පීරා, අදාළ අරමුණට ගැළපෙන ගති ලක්ෂණ එකතු කිරීම, සිතින් රවුම් ගැසීම, අතීතය පීරීම සංකල්පනා පැවැත්වීමයි. කල්පනා නොකර, සංකල්පනා නොපවත්වා, කර්මජ රූප ලෙසින් සිත තුළ තැන්පත් වී තිබෙන අතීතයේ තැන්පත් කළ ගති ලක්ෂණ මතුකර එකතු කර ගත නොහැකිය. විඤ්ඤාණය කල්පනා කරන්නේ ඒ අතීත ගති ලක්ෂණයන් එකතුකර ගැනීම සඳහාමය.

මෙයින් පැහැදිලි කරගත යුතු අනික් සත්‍යය නම් හේතුඵල පරම්පරාවක අතීත සම්බන්ධතාවයන් තුළ සිතින්ම රෝද ගසා ඒ අතීත සම්බන්ධතාවයන්ට අනුකූලව අලුත් ගති ලක්ෂණයන් ද, අලුත් චිත්තජ ශක්තිය ද බිහිකරගන්නා බවයි. මේ අනුව සිතින් රවුම් ගැසීම රෝද කිරීම මඟින් සිදු වන්නේ අතීතය පාදක කර, අනාගතයක් සකස්කර ගැනීමට විඤ්ඤාණය විසින් වර්තමානය උපකාර කර ගැනීමයි. වර්තමාන මොහොතේ සිතින් රෝද කිරීම කරන්නේ මැරුණු අතීතයම සිහිපත් කර නූපන් අනාගතයක් සකස් කර ගැනීමට වර්තමාන මොහොත පාලමක් ලෙස භාවිතා කිරීමයි. එසේ නම් රෝද - නිරෝධ කිරීම යනු මැරුණු අතීතය තුළ සිතින් රෝද ගැසීම නවතා දමා, නූපන් අනාගතයක් බිහිකර ගැනීමට විඤ්ඤාණය දරණ උත්සාහය නතර කිරීමයි. වැළැක්වීමයි.

යම් දෙයක් දැකීමෙන්, ඇසීමෙන්, ස්පර්ශ වීමෙන් සිතට ලැබුණු අරමුණක් දිගේ

රවුම් නොගසා සිතින් සිතීම නතර කර සංඛාර නිරෝධ කිරීම කරගත හැකිය. සංඛාරයක් බලාපොරොත්තුවක් බවට පත්වී නම් බලාපොරොත්තුව පිළිබඳව සිතින් රෝද කිරීම නවතා විඤ්ඤාණ නිරෝධ කර ගත හැකිය. බලාපොරොත්තුව නාමරූපවල බැස ගත්තේ නම් ඒ පිළිබඳ මනසිකාර කිරීම නවත්වා නාමරූපවල නිරෝධ කර ගැනීම කර ගත හැකිය. ඉන්ද්‍රියයන් හයෙන් එකකට හෝ බලාපොරොත්තුව පිළිබඳ නැවත නැවතත් දකින්නට, අසන්නට, සිතන්නට අවශ්‍යතාවයක් ඇතිවුවහොත් ඒ සිතුවිලි නිරෝධ කර, සළායතන නිරෝධ කර ගත හැකිය. ඒ සළායතනවල අදාළ අරමුණු පටළැවී, ස්පර්ශ වී නම්, මනෝ විඤ්ඤාණයේ ස්පර්ශ වීම නවත්වා ස්පර්ශ මාත්‍රයට පමණක් සිත සීමා කර රෝද නිරෝධ කිරීම ස්පර්ශ නිරෝධ කිරීමයි. අදාළ අරමුණ මනෝ විඤ්ඤාණයේ ස්පර්ශ වී යම් සුව අසුව හෝ අතරමැදි වේදනාවක් විඳීමෙන් වැළකී සිටීම රෝද නිරෝධ කිරීම වේදනා නිරෝධ කිරීමයි. තැනකට භාවීමට මත්වීමෙන් ගැවීමට සිත දරණ උත්සාහය නිරෝධ කිරීම තණ්හා නිරෝධ කිරීමයි. තැනකට හා වූ පසු ඒ තැන පැළ පදියම් වී ඒ තැන අල්ලා බඳාගෙන, ලෝකය උරා බීමට දරණ උත්සාහයට අදාළ සිතුවිලි රෝද - නිරෝධ කිරීම, උපාදාන නිරෝධ කිරීමයි. උපාදානය කරගත් අරමුණට සම්බන්ධ ගති ලක්ෂණයකට අදාළව භවට පත්වීම නැවැත්වීම රෝද - නිරෝධ කිරීම භව නිරෝධයයි. "භව" නිරෝධ කිරීම ජාති නිරෝධ කිරීමයි. යම් අරමුණක් දිගේ රෝද කිරීමෙන් භවට පත්වුවහොත් අනිවාර්යයෙන්ම "ජාති" තත්ත්වයට ද පත්වී, චිත්තජ ශක්තියක් ද උපදවා ගනී. ඒ නිසා ආදීනව අවස්ථාව තුළදීම රෝද නිරෝධ කර "ජාති" තත්ත්වයට පත්වීම නවතා ගැනීම මිස වෙන කිසිම ක්‍රමයකින් "අසේස විරාග නිරෝධෝ" යන තත්ත්වයට පත්වීම කරගත නොහැකිය.

එසේ නම් නිවන් අවබෝධ කර ගැනීමට සම්පූර්ණ කරගත යුතු පළමුවෙනි හා වැදගත්ම ක්‍රියාමාර්ගය වන්නේ මේ ආකාරයෙන් අවිද්‍යා සංඛාර "භව" ට පත්වීමට පෙර අවස්ථා නමය තුළදී නිරෝධ කර ඉන් මිදී නිදහස් වීමයි. මෙයම සිත සංවර කර ගැනීමයි. ත්‍රිවිධ සුචරිතයෙහි පිහිටා කටයුතු කිරීමයි. දහසක් සංවර සීලයයි.

සිතින් රෝද ගසා, සිතින් සිතා මිස කටින් හෝ කයෙන් හෝ පමණක් කිසිම ක්‍රියාවක් කාටවත් කළ නොහැකි බව ඔබ හොඳින්ම දන්නා කරුණකි. එසේනම් මනෝ සංඛාර, වචී සංඛාර, කාය සංඛාර යන තුන් ආකාරයෙන්ම අවිද්‍යා සංඛාර නිරෝධ කර සංවර විය හැකි වන්නේ සිතින් රෝද කිරීම නැවැත්වීමෙන්ම පමණි. එය භව නිරෝධ කිරීමයි. කුසල මූල අරමුණු සිතින් ගෙන රෝද කිරීම පිළිබඳව ද මෙතැනදීම පැහැදිලි අවබෝධයක් ලබාගැනීම නිවන් අවබෝධ කර ගැනීමට උපකාර වන අනිත් ක්‍රියා මාර්ගයයි. මෙය සම්මා වීමයි. "සං" වලින් මිදී නිදහස් වීමට කටයුතු කිරීමයි. ගබඩාකර එකතුකරගත් කුණු සළාහැර, චිත්ත පාරිශුද්ධත්වයට පත්කර ගැනීමට කටයුතු කිරීම සම්මා වීමයි.

සිතින් රෝද කිරීම නවතා සිත නිරෝධ කළවිට සිත සමාධි ගත වෙයි. මෙසේ අලුතින් චිත්තජ ශක්තීන් එකතු කිරීම නැවැත්වූ විට විඤ්ඤාණයට ආහාර නැතිවී යයි. විඤ්ඤාණය දැන් උත්සාහ කරන්නේ අතීතයේ එකතුකර ගබඩාකරගත් ආහාර (කුණු) සොයා සංකල්පනා ඇති කිරීමට කටයුතු කිරීමයි. විපස්සනා කිරීම සතියෙහි පිහිටා

කටයුතු කිරීම අවශ්‍ය වන්නේ මේ අවස්ථාවෙහිදීය. සතියෙහි පිහිටා හේතුඵල දහමට බහා ගළපා බලා විඤ්ඤාණයට අරමුණු වන සියලු චෛතසිකයන් දැන හඳුනා, තෝරා බේරා ගෙන කටයුතු කිරීමෙන්ම අවිද්‍යා සංඛාර හා කුසලමූල අරමුණු වෙන්කොට දැන හඳුනා කටයුතු කළ යුතුය. අවිද්‍යා සංඛාරයකට මුල්වන ගති ලක්ෂණයක්, චෛතසිකයක් සිතෙහි අරමුණු වීමත් සමගම ඒ බව හොඳින් දැන හඳුනා එය සළාහැර සිත ශුද්ධ පවිත්‍ර කර ගැනීමට සිතින්ම රෝද කිරීම කුසල මූල අරමුණු පැවැත්වීමයි. මේ අවස්ථාවේදී කළයුතු වන්නේ සිත රෝද කිරීමයි. මේ අවස්ථාවේදී ද පෙර සඳහන් කළ පරිදි අවස්ථා නවයක් තුළදීම කුණු සළාහැර සිත ශුද්ධ පවිත්‍ර කර ගැනීමට සිතින්ම රෝද කිරීම කළ යුතුය. මෙතැනදී නිරෝධ කිරීමක් නොකරන අතර, ලෝභක්ඛය කිරීමට, ද්වේෂක්ඛය කිරීමට, මෝහක්ඛය කිරීමට අදාළ අරමුණු දිගේ රෝද කර ඒ ගති ලක්ෂණය සම්පූර්ණයෙන්ම සළාහැර සිත ශුද්ධ පවිත්‍ර වීමක් සිදුකර ගත යුතුය.

සිත සමථයට, සමාධියට පත් වූ විට සිත තුළින්ම නැගී මතු වී එන මෙවැනි ගබඩා වී ඇති අභ්‍යන්තර අරමුණු (කුණු) යටපත් කර, සඟවා දැමීමට උත්සාහ දැරීම නුසුදුසු ක්‍රියාවකි. ඒවා යටපත් කර සඟවා දැමීමෙන් වන්නේ යළිත් කවදා හෝ අළුයට ඇති අඟුරු සේ මතුවී කවදා හෝ යළි ගින්න ඇවිළීමට හේතුවක් වීමයි. මේ නිසා විපස්සනා කිරීමෙන් කළ යුත්තේ මෙවන් අළුයට ඇති ගිනි අඟුරු හාරා අවුස්සා මතුකර ඒවා සළා හැර ශුද්ධ පවිත්‍ර වීමයි.

මෙයින් පැහැදිළිවම තේරුම් ගතයුතු වන්නේ "භව" නිරෝධය යනු සත්ත්වයෙකුගේ, පුද්ගලයෙකුගේ මතු උපතක් ඇතිවීමට හේතුවන (ගති) "භව" නිරෝධ කිරීමට දරණ උත්සාහයක් බවයි. හේතුවම නිරෝධ කර ඵලයක් ඇතිවීම වළක්වනු මිස ඵලය අල්ලාගෙන එය නැති කිරීමට වෙර වීරිය දැරීම නිශ්ඵල ක්‍රියාවකි. ඒ නිසා කරුණු කාරණා නිවැරදිව දැන ඉන්පසුව කළ යුතු දේ කර ගැනීමෙන්ම නිවන් අවබෝධ කරගත හැකි වෙයි.

## භව නිරෝධය හා සමුදය නිරෝධ කිරීම

අද වන විට බොහෝ භාවනා මධ්‍යස්ථානවල සංඥා නිරෝධ කිරීමක් ගැන පෙන්වා දෙන බවත්, උගන්වන බවත් අසන්නට ලැබෙන බවත් පෙන්වා දිය යුතුයි. බුද්ධ දේශණාවේ නම් කිසි විටකත්, කිසි තැනකත් සංඥා නිරෝධයක් නම් අනු දැන වදාරා නැත. මෙවන් වූ සංඥා නිරෝධයක් ගැන කථා කරන, දේශණා කරන, භාවනා ගුරුවරුන් ලෙස පෙනී සිටින බොහෝ දෙනා "සංඥා" යනුවෙන් පෙන්වා වදාළ බුද්ධ දේශණාවේ සඳහන් "නාම" කොටසට අයත් පදය හෝ "නිරෝධ" කිරීම යන ක්‍රියා පදයේ හෝ අර්ථය නොදැනම කථා කරන බවත් පෙන්වා දිය යුතුය. සංඥා නිරෝධ කළ පුද්ගලයා අසංඥ තත්ත්වයට පත්වීම නියත වශයෙන්ම සිදු වෙයි. අසංඥ තත්ත්වයට පත්වූ පුද්ගලයෙකුට සිතේ මතු වන කෙළෙස් ප්‍රහාණය කර දැමීමට හෝ එසේ ක්‍රියා කිරීමට හෝ කෙළෙස් මුල් උදුරා සිත පිරිසිදු කර දැමීමට හෝ අවශ්‍ය වන හොඳ සිහිකල්පනාවක් නොපවතී. තමන්ගේ සිතට අරමුණු වන සියලුම සංඥා එනම් රූප සංඥා, ශබ්ද සංඥා, ගන්ධ සංඥා, රස සංඥා, පොට්ඨබ්බ සංඥා හා මනෝ සංඥා කෙරෙහි පිරිසිදු සිතින් අවධානයෙන් පසු වී, (පරිමුඛං

සතිං උපට්ඨපෙත්වා) ඒ අරමුණු වෙන් කර, තෝරා බේරා ගෙන, ඒවා භාවිතා කළ යුතු යහපත් අරමුණු ද (සතෝව අස්සසති) ඒ අරමුණු භාවිතයෙන් බැහැර කළ යුතු කෙළෙස් සහිත අරමුණුද යන්න තෝරා බේරා ගෙන සතියෙන් යුතුව ක්‍රියා කිරීම කළ යුතුය. ඒ මිස සංඥා නිරෝධ කිරීමක් පිළිබඳව බුද්ධ දේශණාවේ නම් කොතැනකවත් සඳහන් කර නැති බව අවධාරණයෙන්ම සඳහන් කර පෙන්වා දෙන්නට කැමැත්තෙමු.

මේ අනුවම බුද්ධ දේශණාවේ ඇස නැමති ඉන්ද්‍රියය නිරෝධ කිරීමක් හෝ කන ආදී අනෙක් ඉන්ද්‍රියයන් නිරෝධ කිරීමක් ගැනද මාගධී භාෂාවෙන් නම් අනුදැන වදාරා නැත. ඉන්ද්‍රියයන් ක්‍රියාත්මක නොවන කලක ඉන්ද්‍රියයන්ට සංඥා නොලැබෙන කලක ඔහු අන්ධයෙකු, බිහිරෙකු ලෙසින් සැළකිය හැකිවා මිස සතියෙහි පිහිටා භාවනා කරන්නෙකු ලෙසින් සැළකිය හැකි නොවේ. ඇස, කන ආදී ඉන්ද්‍රියයන් මෙන්ම මනින්ද්‍රියද අසංඥ තත්ත්වයට පත් කළ විට මානසික රෝගින් වනවා මිස භාවනා කරමින් සිත පිරිසිදු කර ගැනීමේ යහපත් චේතනාව නම් සම්පූර්ණ වන්නේද නැත.

බුද්ධ දේශණාවෙන් පෙන්වා වදාළේ "සමුදය" නිරෝධ කිරීම පිළිබඳවයි. "යං කිංචි සමුදය ධම්මං සබ්බංතං නිරෝධ ධම්මං" ලෙසින් පෙන්වා දුන් පැහැදිළි කිරීමද අද වැරදියට අර්ථ ගන්වා ඇත. "සමුදය" යනු සං උදය වීමයි, සං උපත ලැබීමයි. සං උපත ලැබීමට මුල් වූ, නිදාන වූ, ප්‍රත්‍ය වන හේතුවන කරුණු ලෙසින් සම්මා දිට්ඨි සූත්‍රයේ කරුණු 15ක්ම පෙන්වා දී ඇති අතර මේ සියලු කරුණු නිරෝධ කළ හැකි අතර ඒ මඟින් සිදුවන්නේ "භව" නිරෝධයෙන් සමුදය (සංභව) නිරෝධ වීමයි. මෙහිදී "නිරෝධ" යන මාගධී පදයේ අර්ථය නිර්උදා යන්නයි. එයම "අනුත්පාදෝ" යන නොඋපදවීම යන තේරුමෙන්ද භාවිතා කර ඇත. කෙළෙස් ගති සිතක ඉපදීම ආරම්භ වනවාත් සමඟම ඒ බව දැක මේ ගති නොඋපදවා සිතින් බැහැර කිරීම නිරෝධ කිරීම යන ක්‍රියාවයි. "නිරෝධ" යන පදයේම ප්‍රතිපක්ෂ වූ අර්ථය ගෙනෙන පදය රෝද කිරීමයි. දහසක් සිතුවිලි පැවැත්වීම, චිත්ත විථි දිගේ සිතින් රවුම් ගැසීම, අරමුණක් සිතට ලැබුණු විට ඒ අරමුණ කාමච්ඡන්දයට අදාළ කාම විතර්කයක් නම්, ව්‍යාපාදයට අදාළ ව්‍යාපාද විතර්කයක් නම්, මෝහයෙන් කරුණු ලබන විහිංසා විතර්කයක් නම් ඒ බව දැන හඳුනා ගෙන ඒ මොහොතේම ඒ අරමුණ දිගේ රවුම් ගැසීම, සිතින් රෝද කිරීම නවතා දැමීමට ක්‍රියා කිරීම "නිරෝධ" කිරීමයි. ඒ කෙළෙස් සහිත වූ අරමුණ දිගේ සිතින් රවුම් ගැසීම රෝද කිරීම නවතා දමා ඒ වෙනුවට ඒ අරමුණට ප්‍රතිපක්ෂ වූ වීතරාගී, වීතද්වේෂී, වීතමෝහී අරමුණක් සිත තුළ මතුකර වගාකර ගැනීම, ''අනතිවත්තන අර්ථයෙන්'' භාවනා කිරීම යන ක්‍රියාකාරකම මගින් ද විග්‍රහ කර ඇත.

සිතක් තුළ සමුදය උපදින මූලික කරුණු 15ක්ම සම්මා දිට්ඨි සූත්‍රයේදී පෙන්වා දී ඇත. මේ කරුණු 15 ම නිසා සමුදය උපදින අතර සමුදය නිරෝධ කිරීම මගින්ම "සංභව" නිරෝධ කළ හැකිය. "හේතුං පටිච්ච සංභූතං - හේතු භංගා නිරුජ්ඣති" යනුවෙන් පෙන්වා වදාළේ මේ සමුදය නිරෝධ කිරීමයි. අවිද්‍යා, සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ස්පර්ශ, වේදනා, තණ්හා, උපාදාන, භව යන අවස්ථාවන් හා කම්ම, කෙළෙස්, ආසව හා ආහාර යන හේතුන් නිසාද සමුදය බිහි වන බවත් මේ කිනම් අවස්ථාවක් හෝ අනුත්පාද ලෙසින් නිරෝධ කළ හැකි නම් ඒ අනුවම සංභව නිරෝධ වන බවත් ඉතාම

පැහැදිළි ලෙසින් පෙන්වා වදාරා ඇත. සම්මා දිට්ඨි සූත්‍රයේ දී පෙන්වූ නිරෝධ කළ හැකි කාරණා අතර "සංඥා" යන්න පෙන්වා දී නැත. බුද්ධත්වයට පත් වූ බුදුපියාණන් වහන්සේත් ඉතිරි ජීවිත කාලය පුරාම සංඥා භාවිතා කළ යුතුය. ඇස, කන ආදී ඉන්ද්‍රියයන් භාවිතා කළ යුතුය. එසේ කරන ලද්දේය. නමුත් සංඥාවලට පටිච්ච වීමෙන් සමුදය නම් බිහි කළේ නැත. ඒ නිසා සියලු අරහතුන් වහන්සේලාම සමුදය නිරෝධ කිරීමක් කරනු මිස සංඥා නිරෝධ කිරීමක් නොකරන බව පැහැදිළිව ම තේරුම් ගත යුතුයි.

සංඥා නිරෝධ කළහොත් ඒ පුද්ගලයා අසංඥ තත්ත්වයට, විසංඥ තත්ත්වයට පත්වෙනු ඇත. එවන් අය මානසික රෝගීන් බවට පත් වීමද මේ අනුවම සිදු වෙනු ඇත. මේ අනුව සංඥා නිරෝධ කිරීමක් ගැන අනරිය භාවනා ක්‍රමවල දැක්වූවත්, බුද්ධ භාවනා ක්‍රමවල නම් අන්තර්ගත වී නැත. අනුමත කළේද නැත. ධර්මාවබෝධයක් නැති අශ්‍රැතවත් පෘථග්ජන පුද්ගලයෝ පටිච්චසමුප්පාද ධර්මය අවබෝධ කර නොගැනීම නිසාම බොහෝ විට සංඥා නිරෝධ කිරීමක් ගැන අද කථා කරති. පොත් පත් වල ද ලියා දක්වති.

බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ "සංඥා වේදයිත නිරෝධ සමාපත්තිය" යන්න වැරදියට තේරුම් කරදීම මෙයට බොහෝ විට මුල් වන්නට ඇති බවත් පෙන්වා දිය යුතුය. "සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට" සමවදින්නේ අරහතුන්වහන්සේලා පමණි. මෙතැනදී සිදු වන්නේ සංඥාවක් නිසා අරමුණු වන සුව වේදනාවක්, දුක් වේදනාවක් හෝ අදුක්ඛම අසුව වේදනාවකට හෝ පටිච්ච නොවී සංපස්සජා වේදනා තත්ත්වයෙන් මිදී නිදහස් වීම නිසා ලබන නිරාමිස සුවයට පත් වීමයි. මේ නිසා සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට පත් වූ අරහතුන්වහන්සේ අනිමිත්ත, අප්පණිහිත යන සමාපත්තීන් වලටත් සමවැදීමෙන් සිදු කරනු ලබන්නේ සංඥාව මගින් උත්පාදනය වන වේදනාව (සුව වේදනා හෝ දුක් වේදනා හෝ අදුක්ඛම අසුඛ වේදනා) නිරෝධ කිරීමක් පමණි. වේදනාවක් ඇති වීම නිසා තණ්හා උපාදාන හා සංභව සිතක හටගනී. වේදනා නිරෝධ කිරීම නිසා උපේක්ඛා සිතින් සංඛාර උපේක්ඛා ඥාණයෙන් යුතුව ක්‍රියා කිරීමෙන් සිදු කරනු ලබන්නේ වේදනා නිරෝධ කර වේදයිත තත්ත්වයට සිත පිරිසිදු කර ගැනීමෙන් සුව වේදනාවට නොඇලී, දුක් වේදනාවට ද නොගැටී, ඒ අතර වූ සුඛ දුක් සහිත වේදනාවන්ටත් මුළා නොවී ක්‍රියා කිරීමට පුරුදු වූ අරහතුන්වහන්සේ, සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට සමවැදීමෙන්, නිබ්බාන සුවය අත් විඳ ගැනීමට ක්‍රියා කිරීමයි.

සමුදය වීම ගැන තේරුම් නොගත් කෙනෙකුට, එනම් "සං" දැක නොගත් කෙනෙකුට සමුදය නිරෝධ කිරීමද තේරුම්ගත නොහැකිය. ඒ නිසා "ධම්මෝ සංදිට්ඨිකෝ" තත්ත්වයට පත් වූ කෙනෙකුටම පමණක් සමුදය නිරෝධ කිරීමක් ද කළ හැකි වෙයි. මේ නිසා බුද්ධ දේශණාවේ සඳහන් නිරෝධ කිරීම යන්නෙන් අර්ථ දක්වන්නේ ඉපදීමට පෙරම බිහි වීමට ඉඩ නොදීම යමක් අනුත්පාද කිරීම ලෙසින් "නිරෝධ" කිරීම යන්න අර්ථ දක්වා ඇත. නොඋපන් අකුසල්, කෙළෙස් ගති නොඋපදින්නටත්, යළි කෙළෙස් ගති සිතෙහි මුල් බැස උත්පාදනය නොවීමටත් ක්‍රියා කිරීම සමුදය නිරෝධ කිරීම ලෙසින් පෙන්වා දී ඇත.

ඇස, කන ආදී ඉන්ද්‍රියයන් නිරෝධ කළ හැකි වන්නේ ද නැත. ඉන්ද්‍රියය භාවනාවෙන් කරගත යුත්තේ ඇස, කන ආදී ඉන්ද්‍රියයන් අක්‍රීය කිරීමක් නොව ඇසෙන්

දකින රූපය නිසා සිතෙහි හටගන්නා සමුදය ශක්තිය, ක්‍රියාවේ ශක්තිය මත්වීම, රත්වීම, ගිනි ගැනීම යන ස්වභාවය නැමැති ක්‍රියාවේ වේගය පාලනය කර ගැනීමයි. චක්ඛු යනු ඇසයි. චක්ඛුං යනු ඇසෙන් රූපයක් දැක උපදින ක්‍රියාවේ වේගයයි. මේ ක්‍රියාවේ වේගය පාලනය කර ගැනීම යෝනිසෝමනසිකාරයෙන් යුතුව ක්‍රියාකාරී වීමෙන්ම කරගත හැකිය. මෙය ශික්ෂණය, හික්මීම සංවරත්වය යනාදී පදවලින් ද විග්‍රහ වෙයි. මේ අනුව තේරුම් ගත යුත්තේ ඇස, කන ආදී ඉන්ද්‍රියයන් නිරෝධ කළ නොහැකි බවත් ඇසින්, කනෙන් කරනු ලබන ක්‍රියාවන් නිසා සිත මත් වීමේ, රත්වීමේ, ගිනිගැනීමේ වේගය සමථයකට පත්කර සිත පාලනය කර ගැනීම ඉන්ද්‍රියය සංවර භාවනාව ලෙසින් පෙන්වූ වගයි. මේ අනුව පටිච්ච වීමේ ක්‍රියාවලිය තේරුම් ගෙන පටිච්ච නොවී ක්‍රියා සිත් පැවැත්වීමට පුරුදු පුහුණු වීම මඟින්ම සමුදය නිරෝධ කර ගැනීමටද කටයුතු කිරීම භාවනාවයි. මෙය පටිච්චසමුප්පාද ධර්මාවබෝධය මඟින්ම ඉන්ද්‍රියයන් සංවරත්වයට පත්කර ගැනීම යන නිවැරදි බුද්ධ භාවනාවයි.

මේ අනුව සමථ භාවනා, විපස්සනා, අනුපස්සනා භාවනා යන සියලුම භාවනාවන් කිරීමෙන් සාක්ෂාත් කරගතයුතු වන්නේ සිතක උපත ලබන කෙළෙස් ගති උපත ලැබීමට හේතු වන මුල් වන "පටිච්ච වීම" තේරුම් ගෙන පටිච්ච වීමම නවතා දමා සමුදය බිහි නොකරන තත්ත්වයට තම සිත පිරිසිදු කර ගැනීමයි. "සං" උපත ලැබීමට මුල් වන කෙළෙස් ගති සහමුළින්ම සිතින් උදුරා, උපුටා ඉවත් කර දැමීමට ක්‍රියා කිරීම සම්මා අංගයන් සම්පුර්ණ කර ගැනීමයි. මේ අනුව සම්මා දිට්ඨියට පත් වීමෙන් සම්මා අංගයන් සම්පූර්ණ කරගැනීම අරිය අට්ඨාංගික මාර්ගය සම්පුර්ණ කරගැනීම යන්න සහ හොඳ, යහපත්, නිවැරදි යන ලෞකික අර්ථයෙන් අද භාවිතා කරන ලෞකික සම්මා දිට්ඨිය විග්‍රහ කිරීම දෙයාකාර වෙයි. රාගයෙන් මිදී, ද්වේෂයෙන් මිදී, මෝහයෙන් හා මානයෙන් ද මිදී සිත කෙළෙස් ගති වලින් තොර පිරිසිදු තැනක් බවට පත්කර ගැනීම සම්මා අංග සම්පූර්ණ කර ගැනීම අරිය අෂ්ටාංගික මාර්ගය සම්පුර්ණ කර ගැනීම යනුවෙන් බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ නිබ්බානගාමී මාර්ගයයි.

## කුසලමූල පටිච්චසමුප්පාද ධර්මය

කුසල, කුසල්, කුසලමූල යනාදී වචන වල අර්ථය මුලින්ම නිවැරදිවම තේරුම් ගත යුතුය. බුද්ධ ධර්මයේ "කු" යන වචනයෙන් පෙන්වා වදාළේ රාග, ද්වේෂ, මෝහ යන කළු ධර්මයන්ය. කිළිටි, කෙළෙස්, කහට ගති ලක්ෂණයන්ට පොදුවේ භාවිතා කළේ "කු" යන්නයි. මේ කුණු ගති ලක්ෂණයන් පැවතීම නිසා නිතරම කෙනෙකුගේ ලේ ධාතුව අපිරිසිදු වන බව, අපිරිසිදු වී මොළයේ සෛලයන් වසා මුවහ කර මෝහය, මෝඩකම, මොට්ටකම අවිද්‍යාව උපදවන බව ඔබ දන්නා දෙයකි. කෙළෙස් සහිත කුණු ගති ලක්ෂණවලින් මොළයේ සෛලයන් වැසී, මුවහවී ගිය පසුව මිනිසෙකුට, සත්ත්වයෙකුට මනසිකාරය, යෝනිසෝමනසිකාරය කිරීමටද නොහැකි වෙයි. හේතුඵල, හොඳ නරක, ආදීනව ආනිසංස, අවිද්‍යාමූල කුසලමූල ආදී මනස මෙහෙයවා තේරුම් ගත යුතු ද්වතා ලක්ෂණයන් තේරුම් ගැනීමද කළ නොහැකි වේ.

යම් කෙනෙකුට, යම් මිනිසෙකුට මේ කුණු, කිළිටි ගති කෙළෙස් ගති තමා තුළම

එකතු වී තමාගේම චිත්තසංථානයේම තැන්පත් වී තමාගේම මනස වසා මුවහකර තමන්වම මුළාකර මායා දර්ශන මවාපාමින් ක්‍රියාත්මක වන බව දැන දැක ගැනීමට යථාභූත ඥාණ දර්ශනයක් ලද හොත් ඒ පුද්ගලයාට කුසලමූල පටිච්චසමුප්පාද ධර්මය අසා දැන අනුගමනය කරමින් ප්‍රතිපත්ති පුරා තමා තුළම ඇති කුණු, කිළිටි කෙළෙස් ගති ලක්ෂණයන් සළාහැර අස් කර ඉවත්කර ගැනීමටද හැකිවෙයි. "කුසලස්ස උපසම්පදා" යනුවෙන් පෙන්වා වදාළේ මෙයයි. උපසම්පදා යන පදයේ අර්ථය අද වැසී යටපත්ව ගොස් ඇති නිසා ධර්මය තේරුම් ගැනීමටද නොහැකි වී ඇත. මෙහි වචන තුනක් ඇත. උප+සං+පහදා යනු අතීතයේ තමාම එකතුකර තමා තුළම තැන්පත් කර ඇති "සං" ගති ලක්ෂණ (රාග, ද්වේෂ, මෝහ) ඉවත් කර මනස පහදා ගැනීමට ඇප කැපවී ක්‍රියා කිරීම උපසම්පදා යන්නෙහි අර්ථයයි. එවන් කුණු කිළිටි කෙළෙස් සහිත ගති එකතු කිරීම සඳහා කරන සියලු ක්‍රියාවන් අකුසල් ලෙසින් ද බුද්ධ ධර්මයේම පෙන්වා දී ඇත.

කුසලමූල පටිච්ච සමුප්පාද ධර්මය කෙනෙකුට අනුගමනය කිරීමට හැකියාව, ශක්තිය, දැනුම ලැබෙන්නේ අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්මයත්, අවිද්‍යාමූල පටිච්චසමුප්පාද නිරෝධයත් යන දෙකම පිළිබඳව මුලින්ම පූර්ණ දැනීමක් ලබාගැනීමෙන් පසුවමය. සාමාන්‍ය පෘථග්ජන පුද්ගලයෙකුට පවා කළ්‍යාණ මිත්‍රයෙකුගෙන් පමණක් මේ පිරිසිදු ධර්ම පරියාය අසා දැන මේවා තේරුම් ගත හැකි කාරණාවෝයි. අවිද්‍යාමූල සංඛාර විග්‍රහය දේශණාකර ආරම්භ වන පටිච්චසමුප්පාද ධර්මයෙන් විග්‍රහ වන්නේ, පංචස්කන්ධයන්ම අල්ලා උපාදානය කර ගැනීමට කරනු ලබන අවිද්‍යා සහගත ක්‍රියාදාමයයි. කිසිම ආකාරයක ධර්මයක් පිළිබඳව දැනීමක් ඇතත් නැතත්, මේ අවිද්‍යාමූල ක්‍රියාවලිය නිරන්තරයෙන්ම පෘථග්ජන සිතක් තුළ ක්‍රියාත්මක වෙයි. මෙහිදී සිදුවන්නේ අවිද්‍යාවෙන් හා තණ්හාවෙන් බලවත් කුණුගොඩක්ම අල්ලා එකතු කර මම, මගේ යනුවෙන් තම චිත්තසංථානයේම තැන්පත් කර ඒ කුණු ගොඩම වටිනවා, සාරයි, හොඳයි යැයි දෘෂ්ඨියකට පත්වීමයි. උපාදානය කර ගැනීමයි.

ධර්මය අසා දැන, ඇත්ත තේරුම් ගත් කෙනෙකුට පමණක් මේ ආකාරයෙන් තම සිත තුළම මුල්බැස පවතින වැරදි දෘෂ්ඨීන් කපා හැර දමා ඇත්ත ඇති සැටියෙන් දැක ගැනීමටද හැකිවෙයි. ඒ සමඟම අවිද්‍යාමූල පටිච්චසමුප්පාද නිරෝධ කිරීමේ මාර්ගයද අවබෝධ වෙයි.

අවිද්‍යාමූල පටිච්චසමුප්පාදය නිරෝධ කිරීමෙන් සිදුවන්නේත්, කරගත හැකි වන්නේත් මේ ධර්මය තේරුම් ගත් මොහොතේ පටන් අලුතින් ඉදිරියට කුණු කිළිටි, කෙළෙස් ගති එකතු කිරීම නවතා දමා සංවර වන්නට අවශ්‍ය පියවර ගැනීමයි. නමුත් අතීතයේ තමාම එකතුකරගත් තම චිත්තසංථානයේම අතීතයේ ගබඩා කරගත් ආසව ලෙසින් ක්‍රියාත්මක වන කුණුමුල් කපාහැර ශුද්ධ පවිත්‍ර වන්නට නම් කුසලමූල පටිච්චසමුප්පාද පරියායම තේරුම් ගෙන එයම භාවිතා කළ යුතුය. මේ අනුව චිත්තසංථානයේ කාලයක් මුළුල්ලේම තැන්පත් වී පවතින රාග මුල්, ද්වේෂ මුල්, මෝහ මුල් සහමුළින්ම ගළවා, උදුරා දමා, "සමුත්තේජේති" කරගත හැකි වන්නේ කුසලමූල පටිච්චසමුප්පාද පරියායම තේරුම් ගෙන ප්‍රායෝගිකවම අනුගමනය කිරීමෙනි.

"කුසලමූල සංඛාර පච්චයා කුසලමූල විඤ්ඤාණං
කුසලමූල විඤ්ඤාණ පච්චයා කුසලමූල නාමරූපං
කුසලමූල නාමරූප පච්චයා කුසලමූල සළායතනං
කුසලමූල සළායතන පච්චයා කුසලමූල පස්ස
කුසලමූල ඵස්ස පච්චයා කුසලමූල වේදනා
කුසලමූල වේදනා පච්චයා කුසලමූල පසාදෝ
කුසලමූල පසාද පච්චයා කුසලමූල අධිමොක්කෝ
කුසලමූල අධිමොක්ක පච්චයා කුසලමූල භවෝ
කුසලමූල භව පච්චයා කුසලමූල ජාති
කුසලමූල ජාති පච්චයා කුසලමූල ජරා මරණං
ඒවමේතේ සං ධම්මානං සමුදයෝ හෝති"

යනුවෙන් දේශණා කළේ කුණු සළාහැර, ශුද්ධ පවිත්‍ර වන්නට උපකාර කරගත හැකි පටිච්චසමුප්පාද ධර්මයයි.

චිත්තසංථානයේ මතක සටහන් ලෙස එකතු කර කාලාන්තරයක් මුළුල්ලේ තැන්පත්ව ඇති ලෝභ, ද්වේෂ, මෝහ ගති ලක්ෂණ සමාධි ගත වූ සිතක සංඛාර ලෙසින් මතුවී සිත මත්කරවීමට ක්‍රියා කිරීම විඤ්ඤාණයේම උපායකි. යථාවබෝධය ලැබූවෙකුට පටිච්චසමුප්පාද ධර්මය යථා පරිදි තේරුම් ගැනීමට හැකි නිසාම හේතුඵල ධර්මය අනුව කටයුතු කර සිතෙහි මෙවන් ආකාරයෙන් මතුවන කිළිටි, කෙළෙස් ගති ලක්ෂණ පහ කර, සළාහැර ශුද්ධ පවිත්‍ර විය යුතු බවද තේරුම් ගත හැක. ඒ අනුව කටයුතු කර ඒ කුණු සළාහැර ශුද්ධ පවිත්‍ර වීමට සංඛාර විසංඛාර මෙනෙහි කිරීම ලෝභක්ඛය කිරීම, ද්වේෂක්ඛය කිරීම, මෝහක්ඛය කිරීම සඳහා කටයුතු කිරීමයි.

හේතුඵල ධර්මය ගැන මනා අවබෝධයක් ඇති කෙනෙකුගේ සිත සමාධි ගතවූ මොහොතේ පටන් අවදියෙන් සිට සිතට අරමුණු වන සෑම සංඛාරයක්ම තෝරා දැන හඳුනා අවිද්‍යාමූල සංඛාර ප්‍රහාණය කර නිදහස් වීමත් කුසලමූල සංඛාර ආශ්‍රය කර භාවිතා කර කුණු සළා හැර ශුද්ධ වීමත් යන දෙයාකාරයෙන්ම නිරෝධ ගාමිණී පටිපදාව පූර්ණ කරගත හැකිය. කුසලමූල පටිච්චසමුප්පාද ධර්මය නොදැන, ඒ පිළිබඳව නිවැරදි වැටහීමකින් තොරව, කුසල මූල සංඛාර දැන හඳුනා නොගෙන ලෝකෝත්තර කුසලය පූර්ණ කර ගැනීමට හෝ සම්මා දිට්ඨියේ සිට සම්මා සමාධිය තෙක් අරිය අෂ්ටාංගික මාර්ගය පුරා, නිරෝධ ගාමිණී පටිපදාව සම්පූර්ණ කර ගැනීමට හෝ හැකියාවක් නැත. අද කුසල මූල පටිච්චසමුප්පාද ධර්මය පිළිබඳව කිසිම අදහසක් නොමැතිව එය ලෝකයාට තේරුම් කර දීමට නොහැකි වී ඇත්තේ අග සිට මුල දක්වාම මේ උතුම් ධර්මය වැසී යාමෙහි ප්‍රතිඵලයක් ලෙසිනි. එය නිවන් මඟ වැසී යාමට මුල් වූ හේතුව බවද කාටත් පැහැදිළි වනු ඇත.

චිත්තසංථානය යනු විඤ්ඤාණය එකතු කර ගන්නා "සං" තැන්පත් කරගන්නා ස්ථානය යන තේරුම ඇතිව භාවිතා වන පදයකි. කාලයක් මුළුල්ලේ චිත්තසංථානයේ එකතු කර පවත්වාගෙන එනු ලබන රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණ සිත සමාධි ගත වීමත්

සමගම විවිධ මිත්‍ර ස්වරූපයෙන්, යහපත් වේෂයෙන්, මායා දර්ශන මවමින් සිතෙහි මතුවෙයි. විඤ්ඤාණය තම පැවැත්ම සඳහා ඒ සියල්ල කරන බව හේතුඵල දහම අවබෝධ කරගත් කෙනෙකුට පමණක් තේරුම් ගත හැකිය. විපස්සනා කිරීම යනු සමාධි ගත වූ සිතක විවිධ වේෂයෙන් මතුවන මෙවන් කිළිටි, කෙළෙස් සහිත සංඛාර කෙරෙහි තියුණු ලෙස, පරීක්ෂාකාරීව සිට ඒවායේ විවිධ වේෂයන්, විවිධ ගති ලක්ෂණයන් දැන හඳුනාගෙන අවිද්‍යා මූලයෙන් මතුවන සියලු සංඛාර නිරෝධ කර ප්‍රහාණය කිරීමත්, කුසල මූලයෙන් මතු වූ සංඛාර දැන හඳුනාගෙන එවන් සංඛාර ආශ්‍රය කර, භාවිතා කර, චිත්තසංථානයේ එකතු වී පවතින කුණු සළාහැර පිරිසිදු වීමත්ය.

සතියෙන් යුතුව කටයුතු කිරීම අවශ්‍යවන්නේ මේ අවස්ථාවේහිදීය. සතිය යනු හොඳ සිහිය නම් නොවේ. සතියෙන් කටයුතු කිරීම යනු හේතුඵල දහමට බහා බලා, සිතෙහි මතු වූ අරමුණු, සිතිවිලි පිළිබඳව පරම සත්‍යය දැක ඊට අනුරූපව කටයුතු කිරීමයි. නැතිනම් සත්‍යය දැක කටයුතු කිරීම සතියෙන් කටයුතු කිරීමයි. හොඳ සිහියෙන් කටයුතු කිරීම යනු තවමත් විඤ්ඤාණයෙන්ම කටයුතු කිරීමයි. කොපමණ හොඳ වුවත් තවම මෝහය ඇත. විඤ්ඤාණය පවතින තුරු හේතුඵල ධර්මය නොදකින තුරු සතියෙන් කටයුතු කළ නොහැකිය. සතියෙන් කටයුතු කිරීමට පුරුදු පුහුණු වීමෙන් පමණක්ම අවිද්‍යාමූල හා කුසල මූල සංඛාර තෝරා බේරා දැන හඳුනා ගැනීමට හැකි වෙයි. භාවනානුයෝගියෙකු විපස්සනා භාවනාවෙහි යෙදෙන විට, චිත්තසංථානයේ නිතැතින්ම මතු වී එන්නේ, පසුගිය උපත් ගණනාවක සිට කාලාන්තරයක් තිස්සේ පුරුදු පුහුණු කර ගෙන ආ, එකතු කර හදා වඩාගෙන ආ, කෙළෙස් සහිත ගති ලක්ෂණයන්ය. එවැනි දේ මතුවෙන්නා හා සමගම සංඛාරයෙහි ස්වරූපය දැන, හේතුඵල දහමට බහා ගළපා බලා, ඒවා ඛය කර දමන්නට කටයුතු කිරීම කුසල මූල සංඛාර පැවැත්වීමයි.

මෙවන් කුසල මූල සංඛාරයක් අරමුණු වූ අවස්ථාවේදී ද, අවිද්‍යා මූල සංඛාරයක් අරමුණු වීමේදී මෙන්ම නව අවස්ථාවක් පසු කර එය සළාහැර ශුද්ධ පවිත්‍ර විය යුතුයි. අවිද්‍යාමූල සංඛාරයකදී "සං" එකතු කරන අතර, කුසල මූල සංඛාරයකදී කෙරෙන්නේ එවැනි ගති ලක්ෂණ සළා හැර පිරිසිදු වීමයි.

මෙවැනි කුසල මූල සංඛාරයක නව අවස්ථා මෙසේය.

| | | | | | |
|---|---|---|---|---|---|
| 01. | සංඛාර | 02. | විඤ්ඤාණ | 03. | නාමරූප |
| 04. | සළායතන | 05. | ස්පර්ශ | 06. | වේදනා |
| 07. | පසාදෝ | 08. | අධිමොක්ඛෝ | 09. | භව |

මෙතැනදී "සං" එකතු නොකරන නිසා, තැනකට හා වීම "තණ්හා" හෝ තැනක් අල්ලා බදා ගැනීම උපාදානය හෝ සිදු නොවේ. ඒ වෙනුවට මෙහිදී සිදුවන්නේ කුණු සළාහැර පිරිසිදු වීමකි. එය නිදහස් වීමකි. ඒ නිසාම "පසාදෝ" යන අවස්ථාවට පත් වේ. මෙය කෙළෙස් ගති, කිළිටි ගති සළාහැර ශුද්ධ පවිත්‍ර වීමකි. ප්‍රසාදය නිසා ලැබූ නිදහස නිසා "අධිමොක්ඛ" භවට පත්වේ. ඒ ආශාවන්ගෙන්, තණ්හාවන්ගෙන් මිදී පාරිශුද්ධ

තත්ත්වයට පත්වීමයි.

කුසල මූල සංඛාරයක් පැවැත්වීමේදීද "භව" තත්ත්වයට පත්වෙයි. මෙතැන "භව" යනු බුද්ධ බවයි. ලැබූ බුද්ධ "භව" නිසා බුද්ධ "ජාතියට" පත්වෙයි. එනම් චිත්ත ශක්තිය නොඋපදවා, කර්මජ කෝෂය සියලු කුණු වලින්, කෙළෙස් වලින් තොර කර ගැනීමයි. අලුතෙන් කුණු එකතු කිරීම නවතා අලුතින් ගති ලක්ෂණ (රාග, ද්වේෂ, මෝහ ආදී ) එකතු කිරීම නවතා දමා, මෙතෙක් සංසාරයේ එකතු කර තිබූ එවැනි ගති ලක්ෂණ, චරිත ලක්ෂණ සියල්ලද සළා හැර, ශුද්ධ පවිත්‍ර කරගත් පසු මෝහයේ මුල් සිඳ ඇති නිසා මෙතෙක් කල් පුන පුනා භවට පත්වීමත් "ජාති" එකතු කිරීමත්, චිත්ත ශක්ති එකතු කිරීමත් නවතා දැමූහ,

යනුවෙන් බුදුපියාණන් වහන්සේ මෙසේ දේශණා කර වදාළ සේක.

"අයමන්තිමා ජාති නත්‍ථිදානි පුනබ්භවොති"

පුන පුනා භවට පත්වීම, ගති ලක්ෂණ එකතු කිරීම නැවැත්වීම මෙන්ම ජාති එකතු කිරීමද නවත්වා සංසාර ගමනෙන්, රිය ගමනෙන් පූර්ණ ලෙස ඉවත් විය හැකි වන්නේ මිනිසෙකු ලෙස ජීවත්ව සිටියදීම බව මෙයින් පැහැදිළිව තේරුම් ගත යුතුය.

බුද්ධියෙන්, ප්‍රඥාවෙන් කටයුතු කළ හැකි වන්නේ සම්මත සත්‍යය විද බලා, පරම සත්‍යය දැක ගැනීමෙනි. පරම සත්‍යය දැක ගැනීමට නම් මෙතෙක් කල් එකතු කර තිබූ ගති ලක්ෂණ, "සං" ගසා බිඳහැර, නිදහස් විය යුතුයි. කුසල මූල සංඛාර වඩා දියුණු කර, බුද්ධ "ජාතියට" පත් උත්තමයා, "සං" ගසා හැර, බිඳ දමා, පිරිසිදු වී ඇති නිසාම "සංඝ" යන නමින් හැඳින්වූහ.

අවිද්‍යාමූල පටිච්චසමුප්පාද විග්‍රහයේදී "ජාති පච්චයා ජරා, මරණං, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස" යන සියලු ඵල විපාකයන් උරුමයෙන්ම ප්‍රත්‍යවන බව පෙන්වා දී ඇති නමුත්, කුසලමූල පටිච්චසමුප්පාද ධර්මයේදී "ජාති පච්චයා ජරා මරණං ඒවමේතේ සං ධම්මානං සමුදයෝ හෝති" යනුවෙන් දක්වන්නේ, "සං" නිරෝධ කර, ඉවත් කර සම්මා තත්ත්වයට පත්වීමෙන් සමුදය අවසන් වන බව පෙන්වා දීමයි. මේ නිවන් මඟ ප්‍රායෝගිකවම පෙන්වා දුන් ආකාරයයි.

මෙතැනදී ක්‍රියාත්මක වන සංඛාර කුණුමුල් ගළවා දමා ඉවත් කරන්නටම ක්‍රියාත්මක කළ යුතු කුසලමූල සංඛාරයෝය. රාගය වෙනුවට වීතරාගී ක්‍රියා සිතක් ඇතුළට ගත යුතුය. කාම සංකල්පනාවක් වෙනුවට නෙක්ඛම්ම සංකල්පනාවක් ඇති කර ගත යුතුයි. ආසව වෙනුවට නිරාසව, නිරාමිස උපේක්ඛා සිතුවිලි ඇතුළට ගත යුතුයි. වෛරය, ද්වේෂය, ක්‍රෝධය වෙනුවට මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා ඇතුළට ගත යුතුයි. මානය, මමත්වය වෙනුවට මානයෙන්, මමත්වයෙන් ඉවත් වී ආත්ම - අනාත්ම සංකල්ප දෙකෙන්ම ඉවත්විය යුතුය. මේ නිවැරදි නිවන් මඟයි. ආනාපානසති සූත්‍ර දේශණාවෙහි පෙන්වා වදාළ මාර්ගයම මෙහිදී ද පෙන්වා දිය හැකි වෙයි. ප්‍රායෝගිකව නිවන් ප්‍රතිපත්තිය පිරීම එකම ආකාරයක් ගනී.

යථාභූත ඥාණය, සත්‍යාවබෝධය නොලැබූ කෙනෙකුට කුසලමූල සංඛාරයක්

පැවැත්වීමද කළ නොහැකියි. කුණු, කුණු ලෙසින්ම පළමුවම නිවැරදිවම දැකගත යුතුයි. කුණු උපත ලබන සමුදයවන ආකාරයද දැක තේරුම් ගත යුතුය. කුණු ඉවත් කර චිත්ත පාරිශුද්ධිය ලබන්නට අනුගමනය කළ යුතු මඟද අනුගමනය කළ යුතුය.

මේ දර්ශනය නිවැරදි ලෙසින්ම දැකගත් උත්තමයා දුක්ඛේ ඥාණං, දුක්ඛ සමුදයේ ඥාණං, දුක්ඛ නිරෝධ ඥාණං, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ඥාණං යන චතු අරිය සත්‍යයන්ම අවබෝධ කරගත් අරිය උත්තමයෙකුම වෙයි. මේ අනුව පටිච්ච සමුප්පාද ධර්මාවබෝධයෙන් තොරව ලැබිය හැකි නිවනක් නැත.

අවිද්‍යාමූල සංඛාර පැවැත්වීමේදී පච්චයා, හේතු, නිදාන, සම්ප්‍රයුක්ත අඤ්ඤාමඤ්ඤ ආදී විවිධ ආකාරයෙන් සංඛාර අනිකුත් නව අවස්ථාවන් සමඟමත් යෙදෙයි. නමුත් කුසලමූල පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයේදී පච්චයා යන එකම ආකාරයක් පමණක් ක්‍රියාත්මක වන බව නිවැරදිවම තේරුම් ගත යුතුය. මෙහිදී සිදුවන්නේ හේතුව මුලින් උදුරා දා නැති කිරීමයි. "සං" මා (සම්මා) යනු එයයි. හේතුව නැති කිරීම නිසා දූන් නිදානයද නැතිවිය. අඤ්ඤාමඤ්ඤ ලෙසින් හෝ සම්ප්‍රයුක්ත ලෙසින් ද හෝ යෙදෙන්නටද නොහැකිය. හේතුව නැති කිරීමේ ඵලය ප්‍රත්‍ය වීමෙන් අනික් අංගයන් ද, ආදීනව අංගයන් ද බලරහිත වී කුණු මුල් ගැළවී යාම සිදුවෙයි. හේතුව මුලින්ම ගළවා ඉවත් කිරීම නිසා, දූන් සමුදය වීමත්, සං උපත ලැබීමත් සිදුනොවේ. සං උපත ලැබීමක් නොවන විට සංසාර ගති ලක්ෂණයන් අහෝසි වී යයි. ඵල විපාක දීමට නම් (සං උපතක්) සමුදය ධර්මයක් උපත ලැබිය යුතුමය. "සං" උපත ලැබීම අවසන් වූ පසුව ඵල විපාක දීමක් නොවන නිසා (ජාති) උත්පත්තියක් ලැබීමද නවතී. නමුත් නිවැරදිවම තේරුම් ගතයුතු වන්නේ අතීතයේ උපදවාගත් මේ දැන් පවතින ජීවත්වන "ජාති", ඵලය, මරණයෙන්ම කෙළවර කරගත යුතු බවයි. මේ ජාතිය අතීත හේතුවක ඵලයක් නිසා එය නැතිකරගත හැකි වන්නේ අතීත ශක්තිය ගෙවීයාමෙන් පමණි.

කුසලමූල පටිච්චසමුප්පාද ධර්මය යැයි විභංගප්‍රකරණයේ දක්වා ඇති වචනවල, පදවැල්වල නිවනක් නැත. මේ පදවැල් කියව කියවා කටපාඩම් කර ගත්තද එතැනත් නිවනක් නැත. මේ පදවැල් කියවා, තේරුම් ගෙන තමාගේම චිත්තසංථානයේම ගැබ්වී පවතින කුණුමුල් තුනම ප්‍රායෝගිකවම ගළවා දමා තමන්ම ඉන් නිදහස් වීම නිවනයි.

රාග, ද්වේෂ, මෝහ යන ගති ලක්ෂණ තම තමන්ම අතීතයේ කවදා හෝ සාරයැයි ඇතුළට ගෙන තැන්පත් කරගත් ගති ලක්ෂණයන්මය. ඒ ගති ලක්ෂණයන් තමා තුළ පවතින තුරාවට කුණුමුල් ක්‍රියාත්මක වී, රාගයෙන් කාම විතර්කයන්, ද්වේෂයෙන් ව්‍යාපාද විතර්කයන්, මෝහයෙන් පාප විතර්කයන් තමා තුළින්ම මතුවන බව තේරුම් ගත යුතුය. මේ නිසා තමන්ම එකතු කරගත් තමා තුළම ගැබ් වී පවතින දුකට මුල් වූ මෙවන් කුණු මුල් තුන තමාටම විනා පිට කෙනෙකුට ගළවා මුලින් උදුරා දමා තමාගේම චිත්තසංථානය පිරිසිදු කර ගන්නට වෙනත් කිසිම ක්‍රමයක්ද නැත. ඒ අනුව පටිච්චසමුප්පාද ධර්මය මනාකොට දැන, තේරුම්ගත් කෙනෙකුට සියලු කුණු සළාහැර, ප්‍රභාශ්වර තත්ත්වයට චිත්තය පත්කර ගැනීම අපහසු දෙයක් නොවන්නේමය.

## අලෝභ, අද්වේෂ, අමෝහ සංඛාර

අද බොහෝ දේශකයින් මේ සංඛාර තුනම නිවන් දකින්නට උපකාර වන කුසල මූල සංඛාර තුන ලෙස හුවා දක්වන්නට පටන් ගෙන ඇත. මෙයට හේතුව කුසල මූල පටිච්ච සමුප්පාද ධර්මය නොදැනීමයි. අලෝභ, අද්වේෂ, අමෝහ යනුද ලෞකික ක්‍රියාවක් පෙන්නුම් කරන, "සං" එකතු කරන චිත්ත ශක්තියක් එකතු කරන "භව" නැමති ගති ලක්ෂණයට පත් කරන සංඛාරයෝමය.

ලෝභ, ද්වේෂ, මෝහ යනු අකුසල්ය. පව් හෝ අධර්මිෂ්ඨ ක්‍රියාවෝය. ඒවායින් බලවත් ලෙස කුණු එකතු කරගනී. අලෝභ, අද්වේෂ, අමෝහ යනු ලෞකික පින්කම් හෝ පින් පව් දෙකටම අදාළ නොවන ක්‍රියාවෝය. නමුත් එවැනි දේ කිසිසේත් කුසල් කොටසට අයත් නොවේ. කුසල මූල සංඛාර වන්නේ ලෝභක්ඛය, ද්වේෂක්ඛය, මෝහක්ඛය කරන සංඛාර පමණි. මෙහි වචනයේ අර්ථයෙන්ම එය තේරුම් ගත හැකිය. කුණු, කිළිටි දේ සළා හැර ශුද්ධ පවිත්‍ර වීමට නම් ඒවා අත්හැර, ඛය කර ගත යුතුයි. එය කපා දමා අත්හැර, සෝදා, පවිත්‍ර කරගත හැකි නිසා ඛය කරගත යුතුයැයි පෙන්වා දුනි.

අලෝභ, අද්වේෂ, අමෝහ යන සංඛාර කොටසට පින්කම්වලට අමතරව අනුකම්පාව, ආදරය, සෙනෙහස, ප්‍රේමය, උපකාරය, පිහිට වැනි දේ ද අයත් වේ. එවැනි දේ ලෝභකමක් හෝ ද්වේෂයක් නිසා හෝ කරන දේ නොවේ. නමුත් ඒ සියල්ලෙහිම ප්‍රතිඵලය "සං" උපදවා ගැනීම නිසා යම්කිසි සම්බන්ධකමක්, සංසාරයට බැඳීමක් ඇතිවීමයි.

මෙයින් පැහැදිළි කරගත යුත්තේ සංඛාර පැහැදිළිවම දෙකොටසකට බෙදා දැක්විය හැකි බවත් ඒවා අවිද්‍යාමූල හා කුසලමූල බවත් කුසලමූල සංඛාර පමණක් නිවනට උපකාර වන බවත්ය.

## ත්‍රිහේතුක පටිසංධිය

ත්‍රිහේතුක ප්‍රතිසංධියෙන් උපත ලැබූ උතුම් බුද්ධ ධර්මයද නිවැරදිව තේරුම් ගෙන ඒ මගද, ප්‍රතිපත්තිද අනුගමනය කර, මගඵල ලබාගත හැකි බොහෝ මිනිසුන් අදත් අප අතරම ජීවත්වෙති. මේ ත්‍රිහේතුක ප්‍රතිසංධිය යනු ධර්ම අර්ථයෙන් කිහිප ආකාරයකින් විග්‍රහ කළහොත් ලෝභ අලෝභ, ද්වේෂ අද්වේෂ, මෝහ අමෝහ වෙන්කොට දැන හඳුනා ගෙන ලෝභක්ඛය කිරීමේ, ද්වේෂක්ඛය කිරීමේ, මෝහක්ඛය කිරීමේ හැකියාවයි. ශක්තියයි. ධර්මය අසා යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන හැම මිනිසෙකුටම මේ හේතු තුන තේරුම් ගත හැකිය. "තේසං හේතුං තථාගතෝ ආහ, තේසං චයෝ නිරෝධෝ, ඒවං වාදී මහා සමනෝ" යනුවෙන් අස්සජී මහඅරහතුන් වහන්සේ දේශණා කර පෙන්වූයේ මේ හේතු තුනයි. නිරෝධ කළයුතු හේතු තුනයි.

ත්‍රිහේතුක ප්‍රතිසංධියක් ලැබීම යනු තවත් ආකාරයකින් ද විග්‍රහ කර දුන් තැන්

ත්‍රිපිටකයේම ඇත. හේතුඵල ධර්මයට අනුගතව මෙය විග්‍රහ කිරීමේදී,

1. අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්මයට අනුව, සංසාර ගමනට මුල් වූ හේතු තේරුම් ගැනීම (සංදා).
2. අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්මයට අනුව, සංසාර ගමනට හේතු වූ කරුණු නිරෝධ කිරීමට තේරුම් ගැනීම (විසංදා).
3. කුසලමූල පටිච්චසමුප්පාද ධර්මයට අනුව, කුණු මුල් කපා හැර, සහමුලින් උදුරා දමා, ලෝකෝත්තර කුසල් පිරීමට තේරුම් ගැනීම යන කරුණු තුනයි (අනිබ්බිසං).

"යෝ පටිච්චසමුප්පාදං පස්සති - සෝ ධම්මං පස්සති"
"යෝ ධම්මං පස්සති - සෝ මං පස්සති" යැයි දේශණා කර වදාළේත් මේ ත්‍රිහේතුක ප්‍රතිසංධිය ගැනමයි.

අද මිනිසුන් ලෙස උපත ලබා ඇති බොහෝ දෙනෙකු මේ උතුම් ධර්මය අසා, මඟඵල ලබා නිවන් දකින්නට තරම් වාසනාව ඇති ත්‍රිහේතුක පුද්ගලයින්ම බව මෙය කියවන ඔබට නිවැරදිවම අවබෝධ වනු ඇත. මෙතෙක් කලක් මේ උතුම් පටිච්චසමුප්පාද ධර්මය වැසී, යටපත් වී භාවිතයෙන් තොරව වචන පදවැල් ටිකක් සේ පැවතියත් අද එය අර්ථ, ධර්ම, නිරුක්ති සහිතව ඔබටත් තේරුම් ගතහැකි පරිදිම විග්‍රහකර දීමට තේරුම් කරදීමට හැකි ශක්තියෙන් යුක්ත අය ඔබ අතරම සිටින බව සිතන්න. අරහත් මාර්ග ඵලය දක්වාම මේ මග වඩන්නට අවශ්‍ය මාර්ගෝපදේශයන් ලබාදෙන්නටත්, විපස්සනා කර්මස්ථාන ලබා දෙන්නටත් දැනුම, ශක්තිය හා අත්දැකීම් ලැබූ අය අද ඔබ අතරම සිටී.

මේ අනුව නිවන් අවබෝධ කරගන්නට අවංකවම උත්සාහ දරණ කිසිවෙකුටත් මංදෝත්සාහිවන්නට හෝ එය තවත් කල්දමන්නට හෝ හේතුවක් නැත. මේ ජීවිතයේදීම නිවන් අවබෝධ කරගත හැකිය. ඒ සඳහා තම තමාම ධර්මය අසා, තමා තුළම ඇති ලෝභ, ද්වේෂ, මෝහ ගති ගුණ තමා විසින්ම සහමුලින්ම ඉවත් කර නිදහස් විය යුතුමය. ඇත්ත ඇති සැටියෙන් අසා දැන, ඒ අසා දැනගත් සත්‍යයන්ට අනුකූලව මග අනුගමනය කිරීම මගින් ඔබටම නිවන් සුවය අත්විඳගනු හැකිය.

මිනිසුන් ලෙස උපතලබා ජීවත්වන අය අතර පුද්ගලයින් කොටස් හතරක් වාසය කරන බව ධර්මයේ පෙන්වා දී ඇත.

1. උග්ඝටිතඤ්ඤූ
2. විපචිතඤ්ඤූ
3. නෙයිය
4. පදපරම යනු මේ කොටස් හතරයි.

පදපරම පුද්ගලයා යනු භාෂා ව්‍යවහාරයේ එක යම් වචනයකින් පදයකින් කියාපාන දේවල අර්ථය, ධර්මය හෝ නිරුක්තිය තේරුම් ගත නොහැකි, වෙන කෙනෙකුගෙන් අසා දැන හෝ තේරුම් ගත නොහැකි, බාහිර ව්‍යවහාර අර්ථය පමණක්ම අදහන, විශ්වාස කරන පෘථග්ජන පුද්ගලයායි. ඔහුට යම් ධර්ම පදයක ධර්ම අර්ථය තේරුම් ගන්නට ශක්තියක් නැති නිසා නියත වශයෙන්ම තවත් කල්ප කාලාන්තරයක් සංසාර ගමන යැමටද සිදුවෙයි.

අනිත් පුද්ගලයින් තුන්දෙනාටම මේ උපතේදී ධර්මය අසා විපස්සනා නුවණ පහළ කර මඟඵල ලබා නිවන් අවබෝධ කරගැනීමටම වාසනාව ඇත.

කළ්‍යාණ මිත්‍රයෙකුගෙන් ධර්මය අසා බුද්ධ භාෂිතයේ ගෙනහැර වදාළ ධර්ම නිරුක්ති තේරුම් ගැනීම නිවන් මඟ අනුගමනය කරන්නට අවශ්‍ය දැනුමයි. පාලි භාෂාව නමින් අද නම්කර, ව්‍යවහාර කරන, ව්‍යවහාර භාෂාව බුද්ධ භාෂිතයේ එන පදවලට නොයෙකුත් පුද්ගලයින් සම්මත කර පනවාගත් ව්‍යවහාර අර්ථයන් සහිත වූ පාරිභාෂිත භාෂාවකි. ඊට අමතරව ඒ ධර්ම පදවැල්ම විපස්සනා ඥාණයෙන් තේරුම්ගත හැකි ලෝකෝත්තර ධර්ම අර්ථයද අවබෝධ කරගත හැකි හැම කෙනෙක්ම නිවන් අවබෝධයට සුදුසුකම් ලබන "පදපරම" නොවන පුද්ගලයින්ය.

ගිහිගෙයි සිටින ඔබට අනන්ත අප්‍රමාණ බැඳීමය. දූදරුවන්ගේ, නෑදැයින්ගේ, මිත්‍රයින්ගේ, රටවැසියන්ගේ, හිතවතුන්ගේ වැඩ රාජකාරි නිමවා, නිදහසක් ලබාගන්නට අපට මේ ජාතියේදී නම් හැකියාවක් නැත. මේ ආදී වශයෙන් සිතන සියලුම දෙනා පංචඋපාදානස්කන්ධය දැඩිව අල්ලා බදාගත්, ඒවා අතහැරිය නොහැකි තත්ත්වයටම හිතට වහල්වූ, සංසාර ගමන තවත් බොහෝ කාලයක් ගත කරන විඤ්ඤාණ ශක්තියෙන්ම කටයුතු කරන පෘථග්ජන පුද්ගලයින් ය.

ඒ අතරම බොහෝ අය සිතන්නේ ගිහිගෙය අත්හැර, භාවනා මධ්‍යස්ථානයකට ගොස් ලෝකයාගෙන් වෙන් වී හෝ හිමාල වනයට ගොස් සියල්ල අතහැර නිදහස් වීමෙන්ම පමණක් නිවන් දකින්නට මඟපාදාගත හැකි බවයි. එසේ සිතන්නේ ධර්මය නොදන්නා අය මිස ධර්මය දැනගත් අය නොවේ. හිමාල වනයට හෝ ආරණ්‍යයට හෝ ගියද තම සිත දමනය කරගත නොහැකි නම් ඉන්ද්‍රියයන් සංවර කරගත නොහැකි නම් සිතෙහි රාග මූල, ද්වේෂ මූල, මෝහ මූල සිතුවිලි නිරෝධ කර කුණුමුල් සළාහැර, නිදහස් විය නොහැකි නම් ඒ පුද්ගලයාට නිවනක් නැත. යමෙක් තම නිවසේම සිට ධර්මය අසා, සිත දමනය කර, උපාදානය කර ඇති පංචඋපාදානස්කන්ධයම සිතින් මුදාහැර රාග, ද්වේෂ, මෝහ මුල් කපාහැර සිත ශුද්ධ පවිත්‍ර කර ගන්නේ නම් එතැනම නිවනද ඇත. මේ අනුව පන්සලක, කැලයක, ආරණ්‍යයක, භාවනා මධ්‍යස්ථානයක හෝ හිමාලය වනයේ නිවන නැති බවත් තමාගේම සිත තුළින්ම නිවන් අවබෝධය ලැබිය යුතු බවත් සෑම බෞද්ධයෙකුම තේරුම් ගත යුතුයි.

## මහානිදාන සූත්‍රයේ සඳහන් ලාභ පර්යේෂණ පටිච්චසමුප්පාද ධර්මය

දීඝ නිකායේ, මහානිදාන සූත්‍රයේ ගෙනහැරපා වදාළ පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහය විභංගප්‍රකරණයේ හා මහා වග්ගපාලියෙහි ඇතුළත් අවිද්‍යාමූල පටිච්චසමුප්පාද විග්‍රහයට වඩා වෙනස් ආකාරයේ විග්‍රහයකි. මෙහිදී අවිද්‍යාමූල පටිච්චසමුප්පාද විග්‍රහයේම වෙනත් පැතිකඩක් විග්‍රහවන බවත් තේරුම් ගත යුතුය.

මජ්ඣිම නිකායේ සඳහන් අරිය පර්යේෂණ සූත්‍රයේ විග්‍රහ කර පෙන්වා වදාරා ඇත්තේ අරිය තත්ත්වයට පත්වීමට උපකාර වූ බුද්ධත්වයට පත්වන්නට මඟ හෙළි කරදුන්

තමන් වහන්සේම පර්යේෂණ කර සොයා දැනගත් විපස්සනා පර්යේෂණ පිළිබඳවයි. සංසාර ගමනට මුල් වූ, නිදාන වූ හේතුව අවිද්‍යාමූල පටිච්ච සමුප්පාද නිරෝධ කිරීමෙනුත්, කුසලමූල පටිච්චසමුප්පාද භාවිතා කිරීමෙනුත් රිය අරිය තත්ත්වයට පත්කර ගත හැකි බව මේ අරිය පර්යේෂණයෙන් යථාපරිදි අවබෝධකර ගත්හ. මහානිදාන සූත්‍රයේ ගෙනහැර දක්වා වදාළේ අරිය පර්යේෂණවලට විරුද්ධ පැත්ත වන රිය පර්යේෂණ පිළිබඳවයි. මේ රිය පර්යේෂණ, ලාභ පර්යේෂණ ලෙසින්ද මහානිදාන සූත්‍රයේම සඳහන් කර ඇත. පෘථග්ජන ලෝක සත්ත්වයා ලාභ පර්යේෂණ කරමින් නිරන්තරවම ලාභ පර්යේෂණ සඳහාම යොමුවෙමින් තම තමන්ම එකතු කරගන්නා උපාදානය කරගන්නා සමුදය කරගන්නා පංචඋපාදානස්කන්ධයම සංසාර ගමනටද හේතුවන බව මෙහිදී ඉතාමත් පැහැදිළිව විග්‍රහ කර ඇත. අරිය පර්යේෂණ පිළිබඳව නිවැරදිවම කෙනෙකුට තේරුම් ගතහැකි වන්නේ මහානිදාන සූත්‍රයේ පෙන්වා වදාළ රිය පර්යේෂණ (ලාභ පර්යේෂණ) පිළිබඳවද තේරුම් ගන්නට හැකියාව ලැබුණොත් පමණි. මේ අදහස ඇතිවම ආනන්ද හිමිට බුදුපියාණන් මහානිදාන සූත්‍රයේ සඳහන් මෙම ලාභ පර්යේෂණ, අනරිය පර්යේෂණ, රිය පර්යේෂණ විග්‍රහයන් දේශණාකර වදාළ බවත් පෙනේ. ලෝක සත්ත්වයා දිගින් දිගටම සංසාර දුකට වැටී දුක් විඳින්නේම තමන්ම යමක් එකතු කරගන්නට, උපාදානය කරගන්නට කරනු ලබන්නා වූ ලාභ පර්යේෂණයන් නිසාම බවත් කවදා හෝ මේ සත්‍යයන් අවබෝධ කරගන්නා තුරුම ලාභ පර්යේෂණ කරමින් හේතුඵල පරම්පරාවකට බැඳී ඒ හේතුඵල පරම්පරාවම නිදානය කොට, ප්‍රත්‍ය කොට, සමුදය කොට සංසාර ගමනේ යෙදෙන බවත් (රිය ගමන) යන බවත් පෙන්වා වදාළහ. රිය ගමනට හේතුව නිවැරදිවම තේරුම් ගත් කෙනෙකුට පමණක් රිය අරිය කළ හැකි බවද මෙයින් පෙන්වා දී ඇත.

මහානිදාන සූත්‍රයේ ගෙනහැරපා වදාළ පටිච්චසමුප්පාද විග්‍රහය මෙසේය.

''ජාති පච්චයා ජරා මරණන්ති ඉති ඛෝ පනෙතං වුත්තං තදානන්‍ද ඉමිනාපේතං පරියායේන වේදිතබ්බං යථා ජාති පච්චයා ජරා මරණං ජාති චහි ආනන්ද නාභවිස්ස සබ්බේන සබ්බං සබ්බථා සබ්බං කස්සචි කිම්හිචි සෙය්‍යථීදං.....

තේසං තේසංච ආනන්ද සත්තානං තථත්තාය ජාති නාභවිස්ස සබ්බසෝ ජාතියා අසති ජාතිනිරෝධා අපි නු ඛෝ ජරාමරණං පඤ්ඤායෙථාති, නො හේතං භන්තේ.

තස්මාතිහානන්‍ද එසේව හේතු, ඒතං නිදානං ඒස සමුදයෝ ඒස පච්චයෝ ජරාමරණස්ස යදිදං ජාති

ඉති ඛෝ පනේතං ආනන්‍ද
වේදනං පටිච්ච තණ්හා
තණ්හං පටිච්ච පරියේසනා
පරියේසනං පටිච්ච ලාභෝ
ලාභං පටිච්ච විනිච්ඡයෝ
විනිච්ඡයං පටිච්ච ඡන්‍දරාගෝ
ඡන්‍දරාගං පටිච්ච අපේක්ඛාසානං
අපේක්ඛාසානං පටිච්ච පරිග්ගහෝ
පරිග්ගහං පටිච්ච මච්ඡරියං
මච්ඡරියං පටිච්ච ආරක්ඛෝ
ආරක්ඛාධිකරණං පටිච්ච දණ්ඩාදාන...
අනේකේ පාපකා අකුසලා ධම්මා සම්භවන්ති.''

අවිද්‍යාමූල පටිච්චසමුප්පාද විග්‍රහයේ ඇතුළත් වේදනා, තණ්හා, උපාදාන, භව යන අවස්ථාවන්ගෙන් තණ්හා සහ භව අතර සිදුවන පටිච්ච සං උත්පාද ධර්මතාවය මෙහිදී ලාභ පර්යේෂණ වශයෙන් නැවතත් අවස්ථා නවයකදීම දියුණුවන ආකාරය (ප්‍රත්‍ය වීම) පෙන්වා දී ඇත. තැනකට හාවූ පසුව සිතින්ම කරනු ලබන ලාභ පර්යේෂණ හේතුවෙන්ම ලෞකික වශයෙන්, භෞතික වශයෙන් සියලු සත්ත්වයා මිහිපිට ඇති බොහෝ දේ අයිති කර ගන්නට, උපාදානය කරගන්නට කරනු ලබන ක්‍රියාදාමයත්, ඒ නිසාම කරන්නට සිදුවන දඬුමුගුරු ගැනීම, මිනිසුන්, සතුන් මැරීම ආදී සියලු ආකාර වූ පාපී ක්‍රියාවලට මුල්වන එකම හේතුවත් මේ ලාභ පර්යේෂණයන් කිරීමම බව මෙහිදී පැහැදිළිවම පෙන්වා ඇත. මේ සියල්ලමත් සිත තුළම ක්‍රියාත්මක වන දේය.

පෘථග්ජන මිනිසෙකුට මේ ලෞකිකත්වය තුළින් මොනයම් දෙයක් හෝ අල්ලා උපාදානය කරගන්නට කරනු ලබන සියලු ආකාර වූ උත්සාහයන් ලාභ පර්යේෂණ කොටසටම ඇතුළත්ය. ලෞකික ධ්‍යානයක් ලබා ගන්නට පවා කරනු ලබන සියලු උත්සාහයන්ද මීටම ඇතුළත් බව මෙයින් දැනගත යුතුය. අනරිය වූ ධ්‍යාන, අෂ්ට සමාපත්ති, ඍද්ධි ප්‍රාතිහාර්යයන්, අභිඥා යන සියලු දේ ලාභ පර්යේෂණ කොටසටම අයත්වේ. මාර්ගඵල හා අරිය ධ්‍යානයන් පමණක් අරිය පර්යේෂණ කොටසකට ගැනෙන බව මෙයින් පැහැදිළිවම දේශණා කර වදාළ සේක.

මහානිදාන සූත්‍රයේ මෙතරම් විග්‍රහ සහිතව විස්තර සහිතව ප්‍රකාශකර වදාළේ පෘථග්ජන ලෝක සත්ත්වයාට නිවන් මඟ වැසී, සංසාර දුකට පත් වී, ලෞකිකත්වය තුළම හිර වී, මංමුලා වී රිය ගමන යන්නට මුල්වන හේතුව පැහැදිළි කිරීමයි. මේ සූත්‍රයේ දක්වා ඇත්තේ නිවන් මඟට උපකාරවන කරුණු නොව නිවන වසා සිටින කරුණුය. සියලුම පෘථග්ජන ලෝක සත්ත්වයා දහදුක් විඳිමින් මුළු ජීවිත කාලයම උත්සාහ දරන්නේ මෙවන් වූ කුණු පොදියක් ආශාවෙන්, තණ්හාවෙන් එකතුකර ඒ කුණු පොදියක හිමිකරුවා වීමටය. සියලුම ලාභ පර්යේෂණ කරන්නේ සංවර්ධනය කරන්නේ මේ පංචඋපාදානස්කන්ධයම නැවත නැවතත් තව තවත් අල්ලා බදාගැනීමේ ඒකායන අරමුණු ඇතිවය. මෙසේ අල්ලා උපාදානය කරගන්නා පංචඋපාදානස්කන්ධයන් හැර වෙන කිසිම දෙයක් නිසා තමන් ලෝකයාට බැඳී නැත. ඒ පංචඋපාදානස්කන්ධයන්ම නිසා බිමට බරක් වී ඇත. සංයෝජන දහයකටම බැඳී ඇත. මරණ මොහොතේ මාරයාට ණය ලෙසින් ආපසු ගෙවන්නට සිදු වන්නේ ද මෙසේ අල්ලාගත් උපාදානය කරගත්, ණයට ගත් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන පංච උපාදානස්කන්ධයන්මය.

සත්ත්වයා අතර මිනිසුන් අතර සියලු සමාජගත ප්‍රශ්න ඇතිවන්නට හේතුවත් තරගය, බලය, ධනය, නිලය වැනි ප්‍රශ්න ඇතිවන්නට හේතුවත්, යුද්ධ කලකෝලාහල ඇතිවන්නට මූලික හේතුවත්, නිදාන හේතුවත්, මනාකොට පැහැදිළි කර විග්‍රහකර පෙන්වා දුන්නේ මහානිදාන සූත්‍ර දේශණාවෙනි. සක්ක පඤ්ඤ, කලහ, විවාද සූත්‍රවලින්ද මහානිදාන සූත්‍රයේ ගෙනහැර පා වදාළ ලාභ පර්යේෂණ, රිය පර්යේෂණ නියාය, තවදුරටත් උදාහරණ සහිතව විස්තර කර ඇත. මේ අනුව බලන කළ ඉතාමත් සුපරික්ෂාකාරීව දැකගත හැකි වැදගත්ම කරුණක් නම් මුළු බුද්ධ දේශණාවේම සඳහන්

සියලුම සූත්‍ර ධර්මවලින් විග්‍රහ කර ඇත්තේ පටිච්චසමුප්පන්න නියායයේම අඩංගු මූලධර්මයන් විවිධාකාරයෙන් විග්‍රහ කර, විභජනය කර ඉදිරිපත් කිරීමකි. අද මේ උතුම් බුද්ධ ධර්මය තේරුම් ගන්නට නොහැකිව ඇත්තේ පටිච්චසමුප්පාද ධර්මයම විකෘත කර අර්ථයන් යටපත් කළ නිසයි. "ඉච්ච" යන පදයේ අර්ථය නොදැනීමත්, සංදේශණාව යටපත්වීමත් නිසා සං උත්පාද, සමුදය වන ආකාරය තේරුම් ගැනීමට නොහැකි වී ගිය පසුව අද පදවැල් කියව කියවා නිවනක් පතති.

"පටිඉච්ච" යනු කැමැත්තට බැඳීමයි. අනිච්ච යනු එසේ කැමැත්තට බැඳුණු පසු කැමැති වූ දේ, කැමැති වූ ආකාරයට පැවැත්විය නොහැකි යන නියත ධර්මතාවයි. දුක බිහිවන්නේ පටිඉච්ච වූ දෙයක නියත ලක්ෂණය වූ අනිච්ච බව තේරුම් නොගැනීම නිසයි. අනිච්ච ධර්මතාව තේරුම් ගෙන එවන් අනිච්ච වූ දෙයකට නොබැඳී පටිඉච්ච නොවූයේ නම් දුකක් උරුම වන්නේ ද නැත.

විචිකිච්චාවෙන් කටයුතු කරන කෙනෙකුට පටිඉච්ච හෝ අනිච්ච යන ධර්මතාවන් කිසිවක්ම නුවණින් දැනගන්නට නොහැකි වෙයි. මේ නිසා "විචිකිච්ච" යන්න තේරුම් ගෙන විඤ්ඤාණ චිත්තයේ කැමැත්තටම වහල්වී කටයුතු කිරීමෙන් වැළකී අනිච්ච ධර්මතාව මෙනෙහි කරන්නට පුරුදු වුවහොත් ඒ පුද්ගලයා නිවන් දකින්නට සුදුසු තත්ත්වයටම පත් වූවෙකු වෙයි.

එවන් පුද්ගලයා අභිජ්ජාවෙන් මුළා නොවෙයි. උද්ධච්ච, කුක්කුච්ච යන ගති ලක්ෂණවලින් ද ඉවත් වෙයි. මේ නිසා "ඉච්ච" යන පදයෙන් බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළ පදයේ තේරුම නිවැරදිවම තේරුම් ගන්නා තුරාවට, කෙනෙකුට නිවන් අවබෝධ කරගත නොහැකි වෙයි. පෘථග්ජනයා යනු තම සිතේ පහළවන කැමැත්තට වහල්වී, කැමති දේ එකතු කරන්නට උත්සාහ දරමින් කුණු එකතුකර ගන්නා පුද්ගලයායි.

## පටිච්චසමුප්පාද ධර්මය හා චතු අරිය සත්‍යය

දස දහසක් සක්වල බිහිවන, උපදින, ඇතිවන, නැතිවන, සියලු ආකාර වූ ශක්තීන් ගොනුකර විග්‍රහ කර පෙන්වීමට බුදුපියාණන්වහන්සේ ඉදිරිපත් කළ ධර්මය පටිච්ච සමුප්පාද ධර්මයයි. හේතුඵල ධර්මයයි. හැම මිනිසෙකුටම, හැම පුද්ගලයෙකුටම මේ උතුම් ධර්මය එකසේ තේරුම් ගත නොහැකි වුවත් යම් හේතුවක් නිසා යම් ඵලයක් ලැබෙන බව මිනිසෙකුටම තරමක් දුරට හෝ තේරුම් ගත හැකිය. හේතුඵල දහමට අනුකූලවම ධර්ම නියාමයන්ට අනුරූපවම හේතුඵල ක්‍රියාත්මක වීමේ විද්‍යාත්මක සත්‍යය ස්වරූපය පූර්ණ වශයෙන් දැක ගැනීමේ හැකියාවක් එකවරටම කාටවත් ලබාගත නොහැකිය. හේතුඵල ක්‍රියාත්මක වීමේ යථා ස්වරූපය යටපත් කොට විවිධ වූත්, විෂම වූත්, විකෘත වූත් ස්වරූපයක් මවා පෙන්වන මායා දර්ශනවලින් මෝහයෙන් මුසපත් වූ විඤ්ඤාණයේම ක්‍රියාත්මක වීමකි. ප්‍රිය බව, මධුර බව, සුව බව, සැප බව වැනි දැඩිව ගත් බලාපොරොත්තු විඤ්ඤාණය තුළ බිහිවනතාක් මේ මායා දර්ශන පසුපස මිනිසා හඹා යයි. එය තණ්හාව හා මෝහය ලෙසින් පෙන්වා දුන් ගති ලක්ෂණයයි. විඤ්ඤාණය ක්‍රියාත්මකව පවතින තුරුම මොහොතක් මොහොතක් පාසා එකතු කර ගන්නා ගති ලක්ෂණයි.

මෙවන් සැප සුව බවට, ප්‍රිය මධුර බවට මුළා වී ඒවාම වටිනවා යැයි නිගමනය කර ඒවා සොයමින්, ඒවා පසුපසම හඹායන ගති ලක්ෂණය පවතින තුරු හේතුඵල දහමේ විද්‍යාත්මක සත්‍යය ස්වරූපය පෘථග්ජන පුද්ගලයෙකුට දකගත නොහැකිය. මේ රිය ගමනකි. මේ නොනවතින රිය ගමන, භ්‍රමණ ස්වරූපය, හැම පෘථග්ජන සත්ත්වයෙකුටම, පුද්ගලයෙකුටම පොදු එකකි. හැම කාලයටම පොදු ලක්ෂණයකි. හැම දෙයකම සත්‍යය ස්වරූපය වසංකර මෝහයට, මුලාවට පත්කර, විවිධ වූ, විෂම වූ දෘෂ්ටී මවා පෙන්නුම් කිරීම මේ නොනවතින රිය ගමන යාමට එකම හේතුවයි. සංසාර ගමන යනු සාර බව සොයා හඹා යන රිය ගමනක් සේ හැඳින්වූයේද ඒ නිසාමය. නිරන්තරවම නොනවත්වාම සෑම කෙනෙකුම මේ රිය ගමනෙහි යෙදෙති. මෙය කාලයේ ගමන හා සමානය. කාලයේ ගමනද කාගේවත් උත්සාහයක් නිසා වන දෙයක් නොවේ. ඒ අයුරින්ම මේ පැවැත්ම ද, පැවැත්ම ලෙසින් දකින ගමනද බාහිර කාටවත්ම නැවැත්විය හැකි එකක් නොවේ.

මේ නොනවත්වාම කෙරෙන රිය ගමනට ශක්තිය දෙන්නේ ශක්ති ප්‍රභවය වන්නේ ඒ ඒ සත්ත්වයාම බිහිකොට එකතු කර ගන්නා චිත්ත ශක්තියමයි. චිත්ත ශක්තියෙන් උපදවා ගන්නා ගති ලක්ෂණමයි. වෙනත් ආකාරයකින් පැහැදිළි කළහොත් ඒ ඒ සත්ත්වයාම බිහිකර, එකතුකර ගන්නා, රාග, ද්වේෂ, මෝහ, අලෝභ, අද්වේෂ, අමෝහ ගති ලක්ෂණයන්ම ඉන්ධන ලෙසින් මේ ගමන යාමට භාවිතා කරන බවයි. මේ ප්‍රකාශයෙහි සත්‍යය වටහා ගන්නට නම් හේතුඵල දහම ක්‍රියාත්මක වන ආකාරයම දකබලා ගත යුතුය.

1. මේ අනුව අවිද්‍යා මූලයෙන් උපදින පටිච්චසමුප්පාද ධර්ම පරියාය යථා පරිදි තේරුම් ගැනීම.
2. අවිද්‍යා මූලයෙන් උපදින පටිච්චසමුප්පාද ධර්මය නිරෝධ කළයුතු බව යථාපරිදි තේරුම් ගෙන, නිරෝධ කිරීම.
3. කුසලමූල පටිච්චසමුප්පාද ධර්මය යථාපරිදි තේරුම් ගෙන, එය ප්‍රායෝගිකවම භාවිතාකර, කුණුමුල් සළාහැර, ශුද්ධ පවිත්‍ර වීමත් යන පියවර තුනම සම්පූර්ණ කර ගැනීම චතු අරිය සත්‍යයන් අවබෝධ වීමයි. අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්මය යථාපරිදි තේරුම් ගැනීම යනු දුකට හේතුවන, දුකට ප්‍රත්‍ය වන, දුකට නිදාන වන, දුක්ඛ සමුදය වන "පටිඉච්ච වීම" තේරුම් ගැනීමයි. මෙය පළමුවන අරිය සත්‍යය යථාභූත ඥාණයෙන් සත්‍යාවබෝධ කර ගැනීමයි. දුක්ඛ අරිය සත්‍යාවබෝධයයි.

පටිඉච්ච වීම නිසා සං උත්පාදනය වන බව, සමුදය බිහිවන බව යථාභූත ඥාණයෙන් තේරුම් ගැනීම දෙවන අරිය සත්‍යාවබෝධයයි. පටිඉච්ච වීම යනු කැමැත්තට බැඳීමයි. කැමැත්තට බැඳීම යනු තැනක හා වීමයි. තණ්හාවයි. කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා යන සියලු ආකාර වූ තණ්හා උපදින්නේ පටිඉච්ච වීම නිසයි. මේ සමුදය අරිය සත්‍යයයි.

පටිච්චසමුප්පාද නිරෝධ කළයුතු බවත්, නිරෝධ කළහැකි බවත්, එය තමාගේම සිත තුළදීම ආදී නව අවස්ථා වළදීම නිරෝධ කළහැකි බවත් යථාභූත ඥාණයෙන්ම තේරුම් ගැනීම තුන්වන අරිය සත්‍යය අවබෝධ කර ගැනීමයි. එය නිරෝධ අරිය සත්‍යයයි.

තමාගේ සිත තුළම චිත්තසංථානයේම මුල්බැස ගෙන පවතින රාග මූල, ද්වේෂ මූල, මෝහ මූල (ගති) මුලින් උදුරා දමා චිත්තසංථානය ශුද්ධ පවිත්‍රකර ගන්නට, කුණු සළාහැර, කුසලමූල පටිච්චසමුප්පාද ධර්මය භාවිතා කිරීම සතරවන අරිය සත්‍යයයි. නිරෝධ ගාමිණී ප්‍රතිපදාවයි.

මේ අනුව මොහොතින් මොහොතම තම සිත තුළම ක්‍රියාත්මක වන අවිද්‍යා මූලික පටිච්චසමුප්පාද ක්‍රියාදාමය නිවැරදිව තමන්ම තේරුම් ගැනීම පළමුවන පියවරයි.

අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර උපදී. සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය උපදී. විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාමරූප උපදී. නාමරූප ප්‍රත්‍යයෙන් සළායතන උපදී. සළායතන ප්‍රත්‍යයෙන් ස්පර්ශය උපදී. ස්පර්ශ ප්‍රත්‍යයෙන් වේදනාව උපදී. වේදනා ප්‍රත්‍යයෙන් තණ්හාව උපදී. තණ්හා ප්‍රත්‍යයෙන් උපාදානය සිදුවෙයි. උපාදාන ප්‍රත්‍යයෙන් "භව" (කර්ම බීජ) උපදී. කර්ම බීජ (භව) ප්‍රත්‍යයෙන් ජාති (උපතක්) සිදුවෙයි.

ජාති ප්‍රත්‍යයෙන් ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස උපායාස සියල්ලම උරුමවෙයි. මෙහිදී විග්‍රහ කරන ලද පටිඉච්ච සං උත්පාද (සමුදය) යන පළමුවන හා දෙවන අරිය සත්‍යයන් දෙක විග්‍රහ කිරීමේදී මූලික වශයෙන් සතර ආකාරයකින්ම සමුදය වන බව සං උපත ලබන බව පෙන්වා දී ඇත.

| | | | |
|---|---|---|---|
| 1. | පච්චයා | - | යමකින් යමක් ප්‍රත්‍ය වීම නිසා සමුදය වීම. |
| 2. | හේතුං | - | යම් හේතුවක් නිසා සමුදය වීම. |
| 3. | අඤ්ඤාමඤ්ඤාවීම | - | හේතු ප්‍රත්‍ය දෙකම අන්‍යෝන්‍යය වශයෙන් ක්‍රියාත්මක වී සමුදය වීම. |
| 4. | සම්ප්‍රයුක්තව | - | හේතු, ප්‍රත්‍ය යන දෙකම එක සමඟ යෙදෙමින් සමුදය වීම, |

යන හතර ආකාරයටයි. මේ සතර ආකාරයෙන්ම සමුදය ධර්මයක් බිහිවන බව පෙන්වාදුන් බුදුපියාණන්වහන්සේ, මෙම සතර ආකාර නැවතත් තවදුරටත් බෙදා පට්ඨානප්‍රකරණයේ 16 ආකාරයකින්ම විග්‍රහ කර දී ඇත.

අවිද්‍යා මූලයෙන් හටගන්නා සංඛාරයක් නිසා, "සං" උපත ලබන ආකාරය (සමුදය) ප්‍රත්‍ය, හේතු, අඤ්ඤාමඤ්ඤ, සම්ප්‍රයුක්ත යන හතර ආකාරයෙන් විග්‍රහකර පෙන්වා දුන් බුදුපියාණන්වහන්සේ කුසලමූල සංඛාරයක් මඟින් පටිඉච්ච සං කපා දැමීම විග්‍රහ කිරීමේදී භාවිතා කළේ පච්චයා (ප්‍රත්‍ය වීම) පමණකි. ඊට හේතුව කුසලමූල යනු කුණු, කිළිටි කෙළෙස් උපදවන මුල් ගළවා ශුද්ධ පවිත්‍ර කළ පසු ඒ ප්‍රත්‍යයෙන් ඊළඟ පියවරද ශුද්ධ පවිත්‍ර වන නිසයි. එහිදී හේතුවක් ලෙසින් හෝ අඤ්ඤමඤ්ඤ වීමෙන් හෝ සම්ප්‍රයුක්ත වීමෙන් හෝ ක්‍රියාත්මක වන්නට දෙයක් කුණු මුලක් ඉතිරි නොවන නිසා ඒ මුල ගළවා නිදහස් වූ නිසා ප්‍රත්‍ය වීම "පච්චයා" පමණක් පෙන්වා දුන්හ.

පටිච්චසමුප්පාද නිරෝධ කිරීමේ අවස්ථාවේදීද හේතුව නිරෝධ වීමෙන් යම් ඵලයක් උපදවන්නට උපකාරක හේතුව නිරෝධ වන නිසා එතැනදීද ප්‍රත්‍ය පමණක්ම

භාවිතා කර ඇත. සංඛාර නිරෝධ කිරීමෙන් විඤ්ඤාණ ඉබේම නිරෝධ වෙයි. විඤ්ඤාණ සමුදය වීමක් සිදු නොවේ. යම් සංඛාරයක් සිතෙහි මතුවූ කළ එයට බැඳී (පටිච්ච වී) ඒ සංඛාරය දිගේම සිතුවිලි දිගින් දිගටම පවත්වයි නම් පමණක් ආදීනව අවස්ථාවම පසුකර සමුදයද බිහිවෙයි. නමුත් ආදීනව අවස්ථාවලින් එකකදී හෝ සිත නිරෝධ කළේ නම් සමුදයද නිරෝධ වේ. නිරෝධ කිරීම යනු සංඛාරය දිගේ සිතුවිලි පැවැත්වීම නතර කිරීමයි. ඒ විනා යමක් නැති කිරීම නොවේ.

පට්ඨානප්පකරණය නැමැති අභිධර්ම පොතේ විසිහතර ආකාරයකට බෙදා විග්‍රහ කර පෙන්වූයේ සංඛාරයක් විසිහතර (24) ආකාරයකින් පච්චයා වන (ප්‍රත්‍ය) ධර්මතාවයයි. මෙම සූවිසි ආකාරය අතුරෙන් මුල් දාසය (16) ආකාරයම අවිද්‍යා මූලයෙන් හටගත් සංඛාරයක් සිතක උපදින්නට මුල්වන හේතු ප්‍රත්‍යන්ය. ඉතිරි අට (8) ආකාරයම කුසලමූල සංඛාරයක් සිතක ක්‍රියාත්මක වන්නට මුල්වන ප්‍රත්‍ය වන කාරණාවෝය.

අවිද්‍යාමූල සංඛාරයක් උපදින්නට මුල්වන කරුණු

| | | | |
|---|---|---|---|
| 1. | හේතුං පච්චය | 2. | ආරම්මණ පච්චය |
| 3. | අධිපති පච්චය | 4. | අනන්තර පච්චය |
| 5. | සමනන්තර පච්චය | 6. | සහජාති පච්චය |
| 7. | අඤ්ඤාමඤ්ඤ පච්චය | 8. | නිස්සය පච්චය |
| 9. | උපනිස්සය පච්චය | 10. | පුරේජාත පච්චය |
| 11. | පච්චේජාත පච්චය | 12. | අසේවන පච්චය |
| 13. | කම්ම පච්චය | 14. | විපාක පච්චය |
| 15. | ආහාර පච්චය | 16. | ඉන්ද්‍රිය පච්චය |

මේ ආකාරයට පෙන්වාදුන් කරුණු දාසයක්ම අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ක්‍රියාවලියක් සිත තුල ක්‍රියාත්මක වීමට උපකාර වේ. ජාතියක් බිහිවී ජරා, මරණ උරුම වන්නට හේතුවන හේතුඵල පරම්පරාවකට බැඳෙන්නේත්, පංචස්කන්ධයම උපාදානය කරගෙන සංසාර ගමනකට සම්බන්ධ වන්නේත් මෙවන් හේතු එකක් හෝ කිහිපයක් ප්‍රත්‍ය වීමෙනි. හේතුව වීමෙනි, නිදානය වීමෙනි සමුදය වීමෙනි. "පච්චයා" හෙවත් ප්‍රත්‍ය වීම යන පදයද නිවැරදිව ම තේරුම් ගත යුතුයි.

යම්කිසි ධර්මයක, යම් ධර්මතාවයක යම් ගති ලක්ෂණයක උපතට, සමුදයට, ප්‍රතිශ්ඨාවට, පැවැත්මට මෙන්ම නිරෝධයට හා නිස්සරණයටද උපකාරවන ලක්ෂණය ප්‍රත්‍ය වීමයි. මෙයින් පැහැදිළි වන ධර්ම නියාය නම් යම් සංඛතයක යම් සංකල්පනාවක, යම් ගති ලක්ෂණයක, කර්ම බීජයක උපතට, සමුදයට මෙන්ම ගෙවී විනාශ වී යාමටද මුල්වන බලවේග විවිධාකාර බවයි. මේ කරුණු රාශිය අතරින් එකක් හෝ කිහිපයක හෝ බලපෑම මත සමුදය, නිස්සරණය යන දෙකම සිදුවිය හැකි බවයි. උපතට, පැවැත්මට විනාශයට ප්‍රත්‍ය වන කරුණු රාශියක් අතරින් එක කරුණක් එක ආකාරයකින් උපකාර වන විට තවත් කරුණු වෙනත් ආකාරයෙන්ද ඊටම උපකාර වෙයි. "පටිච්ච" එසේත් නැතිනම් කැමැත්තකට බැඳීම සිදුවන ආකාරය පෙන්වාදීම සඳහා මේ සියලු කරුණු ධර්මයේ විග්‍රහකර පෙන්වා දී ඇත. මේ අභිධර්ම විග්‍රහයයි.

අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයෙන් පෙන්වා වදාළේ සිතක පුණ්‍යාභි සංඛාර, අපුණ්‍යාභි සංඛාර හා අනෙජ්ඣාභි සංඛාර බිහිවී ක්‍රියාත්මක වී සිත තුළදීම සමුදය වන ආකාරය පෙන්වා දීමයි. මේ අවිද්‍යාමූල සංඛාරයෝම වචී සංඛාර, කායා සංඛාර, චිත්ත සංඛාර ලෙසින්ද බෙදා විග්‍රහකර ඇත.

කුසලමූල පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයෙන් පෙන්වා වදාළේ කුණුමුල් කෙළෙස් මුල් ගළවා දමා ඉවත් කර ආසවක්ඛය කර දමන්නට උපකාර වන වි+සංඛාරයෝ පැවැත්වීමයි. මෙතෙක් කල් සංසාරයේදී සාරයි කියා නිගමනය කර එකතුකර, ගබඩාකරගත්, චිත්තසංඨානයේ ඇති ගතිගුණ, කිළිටි ගති ලක්ෂණ සළාහැර, පිරිසිදු කරගැනීම සඳහා කුසලමූල සංඛාරයෝම පැවැත්විය යුතුය. ඒවා කුසලමූල සංඛාර ලෙසින්ම ධර්මයේ පෙන්වා දෙයි. කෙළෙස්, කුණු, කහට ගති එකතු කරන සියලු සංඛාරයෝ අවිද්‍යා මූල සංඛාරයෝයි.

මේ අනුව නිවන් දකින්නට උත්සාහ දරණ හැම කෙනෙක්ම අවිද්‍යාමූල සංඛාර දැන හඳුනා ගෙන ඒවා බැහැර කර ඒවා නිරෝධ කිරීමත් කුසලමූල සංඛාරයෝ දැන හඳුනාගෙන ඒවා ආශ්‍රය කිරීමත් පුරුදු, පුහුණු කරගත යුතුමය. මෙයම අවිද්‍යාමූල පටිච්චසමුප්පාද නිරෝධයත් කුසලමූල පටිච්චසමුප්පාද භාවිතයත් ලෙසින්ද පෙන්වා දී ඇත.

## ස්වභාව ධර්මය, නියාම ධර්ම හා කර්ම විග්‍රහය

ස්වභාව ධර්මය යන්නෙහි තේරුම ස්ව බව යන්නයි. බව යනු බිහි කරගත්, බිහිවූ දේ, ඇති කරගත් දේ, එකතු කරගත් දේ, සිද්ධ වූ දේ යන අර්ථය දෙන පදයකි. ඒ ඒ සත්ත්වයින්, පුද්ගලයින් පෙනෙන නොපෙනෙන අනන්ත අප්‍රමාණ ජීවීන් තම තමාම බිහිකරගත් දේ ස්වභාව ධර්මය ලෙස  අපි හඳුන්වමු. ඒ ඒ සත්ත්වයාම, පුද්ගලයාම, ඒ ඒ සත්ත්වයාගේ, පුද්ගලයාගේ පැවැත්ම පවත්වා ගැනීම සඳහාම බිහිකරගත් දේ ස්වභාව ධර්මය ලෙසින් පොදුවේ අපි දකිමු.

ස්වභාව ධර්මයේ ඇත්තේ ආපෝ, තේජෝ, වායෝ, පඨවි යන ධාතු හෝ භූත කොටස් සහ වර්ණ, ගන්ධ, රස, ඕජා නැමති ශුද්ධාෂ්ටක කොටස්ය. ශුද්ධාෂ්ටක කොටස් අටට අයිති කිසියම්ම කොටසකට කිසිම ආකාරයක බලයක්, ශක්තියක් හෝ වෙනත් ආකාරයක ස්වයංභූ හැකියාවක් ද නැත. මෙම ශුද්ධාෂ්ටක විඤ්ඤාණ ශක්තියෙන්ම එකතු කර සංඛත ලෙසින් සකස් කළ හැකි දේවල් මිස එකතු වීමේ, සකස් කිරීමේ ස්වයංක්‍රියා ශක්තියක් කිසිම ධාතු කොටසකට හෝ භූත කොටසකට හෝ ඇත්තේ නැත.

මේවා එකතු නොවූ ප්‍රාථමික අවස්ථාවේදී ගති හතරකි. එනම්,

1. තද ගතියෙන් යුත් පඨවි ගතිය.
2. ද්‍රව ගතියෙන් යුත් ආපෝ ගතිය.
3. උණුසුම් ගතියෙන් යුත් තේජෝ ගතිය.
4. සැහැල්ලු, චලනය වන ගතියෙන් යුත් වායෝ ගතියයි.

අවකාශයක් ඇති ඕනෑම තැනක මේ ගති හතර විඤ්ඤාණ ශක්තියද සමග එකතු වූ විට භූත වශයෙන් මහා භූත වශයෙන් හෝ ධාතු වශයෙන් හෝ සකස් වෙයි. මසැසට අපට පෙනෙන, ස්පර්ශ කරන්නට හැකි හැම දෙයක්ම මේ මූලික භූත කොටස් හතරටම අයත් ධාතු ලෙසින් ඝනීභවනය වූ දේවල්ය. මිනිසුන්, සත්ත්වයින්, ගස්, ගල්, කඳු, පර්වත, මහ මුහුද, ජලාශ ආදී සියලු දේ විඤ්ඤාණ ශක්තිය නිසාම එකතු කර සාදා සකස් කරගත් නිර්මාණයන්ය. දෙවි දේවතාවන්, ප්‍රේතයින්, භූතයින්, අමනුස්සයින් ආදී කොට ඇති අපමණ භූත කොටස් අපට අපේ මසැසට දක ගත නොහැකිය. හේතුව ඒවා ඝනීභවනය නොවූ ධාතු කොටස් බවට පත් නොවූ සියුම් භූත කොටස් ලෙසම පැවතීමයි.

විඤ්ඤාණ ශක්තියෙන් උපතක් ලබන හැම සත්ත්වයෙක්ම, මිනිසෙක්ම, භූතයෙක්ම, දෙවියෙක්ම අපට පෙනුණත්, නොපෙනුණත් විශ්වයේ ඇති සතර මහා භූතවලින් කොටසක් ණයට ලබාගෙන තම ශරීරය, නිවස සාදා සකස් කරගනී. මෙසේ සතර මහා භූත වලින් යම්කිසි කොටසක් ණයට නොගත් කෙනෙකුට තම විඤ්ඤාණ ශක්තිය රඳවාගෙන යන්නට ජීවිතයක්ද පවත්වාගත නොහැකියි. එසේත් නැතිනම් විඤ්ඤාණ බීජයක් පැළවීමට නම් සතර මහා භූතයින්ගෙන් සෑදුම්ලත් කෙතක් සකස් කරගත යුතුමය. මේ අනුව අපට පෙනෙන, නොපෙනෙන හැම සත්ත්වයෙක්ම, භූතයෙක්ම, හැම ද්‍රව්‍යයක්ම යම්කිසි විඤ්ඤාණ ශක්තියකින්ම සතර මහා ධාතු හෝ සතර මහා භූත කොටස්ම එකතුකර සාදා සකස් කරගත් දේවල්ය. උපදවාගත් විඤ්ඤාණ ශක්තිය ගෙවීයත්ම ඒ සකස් කරගත් සියලු දේමත් ගෙවී, විපරිණාමයට පත් වී වැනසී යාම සිදුවෙයි.

විඤ්ඤාණ ශක්තියෙන්ම සදා සකස් කරගන්නා මේ විශ්වයේ අපි දකින, නොදකින සියලු දේ නියාම ධර්ම පහකට අනිවාර්යයෙන්ම නියත වශයෙන්ම යටත්වෙයි. ස්වභාව ධර්මයේ නිර්මාතෘ වන නියාම ධර්මයකට අවනත නොවී කටයුතු කළහැකි කෙනෙක් ලොව නැත. සෑම කෙනෙක්ම දන හෝ නොදන නියත වශයෙන්ම නියාම ධර්මවලට යටත්විය යුතුමය. නියාම ධර්ම වෙනස් කරන්නට, සංශෝධනය කරන්නට හෝ මඟහැර කටයුතු කරන්නට හැකි කිසිම දෙවියෙක්, බ්‍රහ්මයෙක්, මිනිසෙක් නැත. බුදුපියාණන් වහන්සේටවත් නියාම ධර්ම වෙනස් කරන්නට ශක්තියක් හෝ බලයක් නැත. මේ නියාම ධර්මයන් තේරුම් ගෙන ඒවාට අවනත වී නියාම ධර්ම තුළම සිට බුදුපියාණන් කළේ නියාම ධර්මයන්ට යමෙකු යටත් වන්නට හේතුව සොයා හේතුවම නැති කිරීමයි. විඤ්ඤාණ ශක්තියෙන් බිහිකරන, උපත ලබන හැම දෙයක්ම නියාම ධර්ම වලට යටත්වන නිසා විඤ්ඤාණ ශක්තිය නිරෝධ කිරීමෙන්ම පමණක් නියාම ධර්මයන්ට යටත් නොවී නිවනට, විමුක්තියට පත්විය හැකිබව බුදුපියාණන් සොයා දන ස්වභාව ධර්මය අභිබවා යන ප්‍රඥා විමුක්තිය සොයා මතුකර ගන්නට සමත් වූ නිසාම බුද්ධ නම් වූ සේක.

මේ අතරම සංඛතවල ස්වරූපය වෙනස්කර ගැනීමට නම් විඤ්ඤාණ ශක්තියේ සංයුතියම (ගති) වෙනස්කරගත යුතු බවත් සොයා දන දේශණා කළ සේක. නමුත් සංඛතයක අභ්‍යන්තර සංයුතිය වෙනස් කිරීමේ ශක්තියක් කාටවත්ම නැත. ඒවාද නියාම ධර්මයන්ට යටත්වන නිසාය. මිනිසෙකුව ඉපදී සිටින කෙනෙකුට තම ගතිගුණ ගති

ලක්ෂණ වෙනස් කරගෙන විඤ්ඤාණ ශක්තිය වෙනස් කර ගෙන මතු ලබන උපතක්, වෙනත් ගති ලක්ෂණයකට පත් කර ගැනීමේ ශක්තියක් ඇත. නමුත් මිනිසාගේ හෝ බල්ලාගේ හෝ ස්වරූපය, ස්වභාවය, අභ්‍යන්තර සංයුතිය වෙනස් කිරීමේ බලයක්, හැකියාවක් විඤ්ඤාණයටද, මනසටද නැත. ඒවා නියාම ධර්මයන්ටම අනුගතවම සිදුවන හෙයිනි. මේ අනුව මනසින් කල්පනා කර මිනිසත් බවෙන් දෙව් බවටත්, බ්‍රහ්ම බවටත්, නිවන් දකින්නටත් මිනිසෙකුට කටයුතු කළ හැකියි. නමුත් මිනිසෙකුව උපන් කෙනෙකුගේ පැවැත්ම රඳාපවතින පෙනහළු, වකුගඩු, හෘදය වස්තුව, ලේ ගමන හෝ අභ්‍යන්තර සංයුතිය වෙනස් කර අලුත් විධියේ උපතක් බිහි කිරීමක් කරන්නට නොහැකිය. ඒ, ඒවා නියාම ධර්මවලටම යටත් වන හෙයිනි. නවීන විද්‍යාඥයින් මෙවැනි වෙනස්කම් කරන්නට යම් යම් උත්සාහයන් ගත්තද එවැනි උත්සාහයන් පවා මහා විනාශයකට මුල්වීම කාටවත් වෙනස් කළ නොහැකිය. ඒ නිසා මතු උපදින මිනිසුන් කවදා කොහේ ඉපදුනත් මිනිසාගේ ස්වරූපය, සංයුතිය සමස්ථයක් ලෙස වෙනස් කර වෙනස්ම ආකාරයේ මිනිසෙකු බිහිකළ නොහැකිය. මෙය ඉතාම ගැඹුරු සිතන්නටවත් නොහැකි තරම් සංකීර්ණ වූ ධර්මතාවයකි. ඒ අනුව විඤ්ඤාණ ශක්තියට හා මනසට ශක්තිය ඇත්තේ නියාම ධර්මයන් පහටම අවනතව නියාම ධර්මයන් පහ තුළම සිට විඤ්ඤාණ ශක්තියම නිරෝධ කර ගෙන නියාම ධර්මයන්ගේ සමස්ත බලපෑමෙන්ම නිදහස් වීමයි. නිවන විමුක්තිය යනු මෙයයි.

හැම පෘථග්ජන සත්ත්වයකුම, පුද්ගලයෙකුම, දෙවියකුම සියලුම නියාම ධර්මයන්ට යටත් විය යුතුමයි. ඊට හේතුව විඤ්ඤාණ ශක්තියක් උපද්දවා ගෙන ඒ විඤ්ඤාණ ශක්තියෙන්ම තමන් ජීවිතයක් පවත්වන නිසයි. විඤ්ඤාණ ශක්තිය නැමැති කිළිටි ශක්තිය, ගතිය තමන් තුළ ක්‍රියාත්මකව පවතිනා තුරාවටම නියාම ධර්මයන් පහටමත් අදාළව තමන්ටම ඵලවිපාකයන් ද උරුම වේ. එය වෙනස් කර ගත හැකි එකම පුද්ගලයාද තමාමයි. ඒ තමාම එකතු කරගත් කිළිටි ගති බැහැර කරලීමෙන්ම යි.

බීජ නියාමය පළමු වන හේතුවයි. තමන් "කර්ම බීජ" උපදවන්නෙක් නම් ඒවා තම චිත්තසංථානයේ ම "විඤ්ඤාණ බීජ" ලෙසින් තැන්පත් වෙයි. විඤ්ඤාණ බීජ තම මනෝමය කය තුළම තැන්පත් වී පවතී නම් ඒවා "උත්පත්ති බීජ (සංභව) බවට පත් වී උත්පාදනය වීම උප්පජ්ජති බවට පත්වීම බීජ නියාමයට අනුවම සිදු වෙයි. තමන් උපද්දවා ගත් කර්ම බීජ වලට අනුරූපවම තමන්ගේම මතු උපත ද සිදු වෙයි. මෙය ධර්ම නියාමයයි. බීජ නියාමයයි. කර්ම නියාමයයි. සමුදය ධර්මයන් තමන් බිහි කරගන්නා තුරාවටම සංසාර ගමනේ පැවැත්ම ද දිගින් දිගටම ඇදී යයි. තමන්ගේ කැමැත්තට අනුව හෝ පැතුමට අනුව හෝ මතු උපතක් ලබාගත නොහැකිය. කර්ම බීජයට අනුරූප වූ, අනුකූල වූ උපතක් ම තමන්ට උරුම වෙයි.

උපන් හැම මිනිහෙකුගේම, සත්ත්වයෙකුගේම එකම බලාපොරොත්තුව තම ජීවිතය කැමති සේ පවත්වාගෙන යාමයි. මේ දිවිපැවැත්ම තමන් කැමති පරිදි තමන්ගේ මනාපය පරිදි පවත්වන්නට යාමේදී පවත්වා ගන්නට උත්සාහ දැරීමේදී තම කැමැත්තෙන් හෝ අකමැත්තෙන් හෝ බොහෝ පව්කම් හා අකුසල කර්මයන් කරන්නටත් සිදු වන්නේය. කොතෙක් පින්කම් කළත් කෙළෙස් සහිත සිතකින් පව්කම් හා අකුසල්ද කරන්නේ නම් සංසාර ගමනෙන් හා සංසාර දුකෙන් නම් මිදී නිදහස් වීමක්ද සිදු නොවන්නේමය. අකුසල්

හා පව්කම් නිසා යළි යළිත් කිළිටි වන අඳුරු වන තම චිත්තසංථානයෙන් මෙන්ම මෝහයෙන් මුළා වූ මනසින්ද කරන, කියන, හිතන බොහෝමයක් දේ රාග, ද්වේෂ, මෝහ සහිත වූ සිතකින්ම කරන ක්‍රියාකාරකම් බවටම පත් වෙයි. පංචකාම නීවරණ ධර්මයන් නිසා නිවන ආවරණය වන්නටත්, සංසාර ගමන දිගටම පවත්වා ගෙන යමින් දුක් විඳින්නටත් හේතුව නියාම ධර්මයන් තමන්ගේ පාලනයෙන් තොරවම ක්‍රියාත්මක වී ඊට අනුරූපව ඵලවිපාකද ආපසු තමන්ටම උරුම කර දීමයි.

"තමන් පෙර කරන ලද කර්මය නිසාම සියල්ල සිදු වේ." (පුබ්බේ කථ හේතු) "ඊශ්වරයා හෝ මහා බ්‍රහ්මයා හෝ නිර්මාණය කර දුන් දේ අපට දැන් වෙනස් කළ නොහැකිය" (ඉස්සර නිම්මාන හේතු) "මේ සිදු වන සියල්ලම අහම්බෙන් සිදු වන දේය" (අහේතුක ප්‍රත්‍ය) යනාදී වශයෙන් සිතන බොහෝ අය එදා මෙන්ම අදටත් අප අතර ම සිටිති. සැප, දුක්, ලාභ, අලාභ ආදී අටලෝ දහමම මේ ඉහත කරුණු අනුවම සිදු වේ නම්, තමන්ගේ පාලනයෙන් බැහැරවම සිදු වෙනවා නම් "කුමන විද්‍යාවක්, කුමන ධර්මයක් දැන ඉගෙන ගත්තත් ඵලක් නැත" යන්නත් ඔවුන්ගේ මතයයි.

පෙර කළ කර්මයෙන්ම සියල්ල සිදු වේ යන්න, බුද්ධ දේශණාවට විරුද්ධය. බුද්ධ දේශනාවට නොගැළපේ. එය එක හේතුවක්ම පමණි. පෙර කළ පින්කම් සහිත වූ නිසාම ඔබ අද මිනිස් බව ලබා ඉපදී ඇත. නමුත් අද අදම කරගත යුතු හා අද අදම නොකර බැහැර කළයුතු යැයි කර්ම කොටස් දෙකක්ම ඇත. "කර්ම" යනු ක්‍රියාකාරකම්ය. "පුණ්‍ය ක්‍රියා හා පාප ක්‍රියා යනුවෙන්ද" කුසල ක්‍රියා හා අකුසල ක්‍රියා" යනුවෙන්ද දෙකොටසකට පැහැදිළිවම බෙදා දක්වා ඇත. "කුසල ක්‍රියා" යන පදයෙන් අදහස් කළේ චිත්තසංථානයෙහි අතීතයෙහි පටන්ම මුල්බැසගෙන පවතින අදටත් ක්‍රියාත්මකව පවතින කෙළෙස් ගති සිතින්ම උගුල්ලා දමා සහමුළින්ම තම චිත්තසංථානය පිරිසිදු කර ගැනීමයි. පුණ්‍ය ක්‍රියා, පාප ක්‍රියා, අකුසල ක්‍රියා යන ක්‍රියාකාරකම් (කර්ම) තුනෙන්ම සිදුවන්නේ චිත්තසංථානයට තව තවත් අලුත් කෙළෙස් ගති එකතු කර උපාදානය කර ගැනීම පමණකි. ඒවා නිසා සංසාර ගමන හොඳින් හෝ නරකින් හෝ දික් වෙනවා මිස සංසාර ගමන නිමා වන්නේ නැත.

මේ ඉහත සඳහන් කරන ලද පුබ්බේ කථ හේතු, ඉස්සර නිම්මාන හේතු හා අහේතුක ප්‍රත්‍ය යන දේ දැඩිව විශ්වාස කරමින් පිළිගන්නා යම් කෙනෙකුන්, මිනිසෙකු ලෙස උපත ලබා සිටියත්, ඔහු තමාගේ ශක්තිය, තමන්ට කළහැකි දේ, තමන්ට කෙළෙස් අතහැර ඉන් නිදහස් විය හැකි බව මනුස්ස බලය නොදන්නා කෙනෙකි. ඒ නිසාම අඥාණ, දුප්පඤ්ඤස්ස, අමනසිකරණීය, මොට්ටස්ස, මෝස යනාදී විශේෂණ පදවලින් ධර්මයේ එවන් මිනිසුන්වම හඳුන්වා දී ඇත. මනුස්සත්ත පටිලාභයක් එවන් අයට නැත.

තමන්ගේම අහේතුව නිසා, නොලැබීම නිසා, දෙවියන්ගේ කැමැත්ත නිසා, පෙර කර්මය නිසා, අප්‍රත්‍ය නිසා සියල්ලම සිදුවේය, යනුවෙන් යම් මිනිසෙක් කල්පනා කරයි නම්, තීරණය කරයි නම් ඔහු සතියෙහි පිහිටා, සතියෙන් ක්‍රියා කරන කෙනෙකු වන්නේද නැත. ඔහු තම මනස භාවිතා නොකරන කෙනෙකි. හිතට වහල් වී, හිතට යට වී, විඤ්ඤාණයට ගැති වී ක්‍රියා කරන, දුක් විඳින කෙනෙකි. මෙවැනි මිනිසුන් කරණීය ධර්ම හා අකරණීය ධර්ම, කළයුතු දේ හා නොකළ යුතු දේ, හේතුඵල ධර්මය හෝ ආනාපාන

සතියෙහි පිහිටා ක්‍රියා කරන්නට හෝ නොදත් මිනිසුන්මය.

"මා මෙසේ දේශණාකර පෙන්වා දෙන උතුම් පටිච්ච සමුප්පාද ධර්මය කාටවත්ම නිග්‍රහ කළ නොහැකි ධර්මයකි. කාටවත්ම වෙනස් කළ නොහැකි ධර්මයකි. කාටවත්ම කිළිටි කළ හැකි, දූෂණය කළ හැකි ධර්මයක්ද නොවේ." යැයි බුදුපියාණන්ම දේශණා කර පෙන්වා වදාරා ඇත. ඒ නිසාම උතුම් බුද්ධ ධර්මය "අනිග්ගහිතෝ, අසංකිළිට්ඨෝ, අනුපවජ්ජෝ, අප්පතිකුට්ඨෝ, අප්පමානෝ" ධර්මයකි. ධර්මයට නිග්‍රහ කරන්නට, කිළිටි කරන්නට, වෙනස් කරන්නට, අපවාද කරන්නට, ධර්මය බැහැර කර, ප්‍රමාණ කර, සීමා කරන්නට උත්සාහ දරණ පුද්ගලයාම කිළිටි වෙනු මිස දුගතියට පත්වෙනු මිස ධර්මය නම් වෙනස් නොවේ. කිළිටි නොවේ. විකෘති නොවේ.

යමෙක් අනවබෝධයෙන්, අනුමාණ වශයෙන්, උගත්කමෙන් දැනගත් අනුසාරයෙන් පමණක්ම උතුම් ධර්මය වැරදි ආකාරයට ලෝකයාට දේශණා කර ලෝකයා නොමඟ යවන්නට හේතුවන ආකාරයෙන් ක්‍රියා කරන්නේ නම් එම දේශකයාටම අයහපත් ඵලවිපාක විඳීමට ද සිදුවෙනු නියතය. උතුම් බුද්ධ ධර්මය දේශණා කර ලෝකයාට ප්‍රකාශ කළ යුත්තේ තමන් අත්දැක, අත්විඳ ගැනීමෙන් පසුවම පමණි. එසේ නොවන හැම විටකම එය අනුමානයෙන් කරනු ලබන අඩමාන ප්‍රකාශයක් පමණක් වෙයි.

ධර්මයට බහා ගළපා බලා විනයටද සැසඳේ නම් එයම බුද්ධ ධර්මයයි. බුද්ධ ධර්මය යනු පටිච්චසමුප්පාද ධර්මයයි. ධර්මයට බහා ගළපා බලන්නට නම් අවිද්‍යාමූල පටිච්චසමුප්පාද විග්‍රහයත්, අවිද්‍යාමූල පටිච්චසමුප්පාද නිරෝධයත්, කුසල මූල පටිච්චසමුප්පාද විග්‍රහයත් යන තිපරිවට්ටයම යථා පරිදි අවබෝධ කරගත යුතුය.

විනය යනු "ණය" යන්නෙන් වෙන් වී, මිදී ණයෙන් නිදහස් වීමයි. යමක් උපාදානය කරගන්නා හැම විටකදීම එසේ යමක් උපාදානය කරගන්නා පුද්ගලයා ලෝකයාටම ණය වෙයි. මෙය මාරයාට ණය වීමකි. බුදුපියාණන් විනය පිටකයේ හැම විටකදීම "ණය" විග්‍රහයක් දේශණා කර ඉන් පසුව "විනය" විග්‍රහ කර දී ඇත. සම්මතයේ හෝ ව්‍යවහාරයේ හෝ පනවාගත් විනය නීති පද්ධතියකට වඩා බුද්ධ භාෂිතයේ එන "විනය" ගාම්භීර අර්ථයකින් දේශණා කර වදාළ දෙයකි. ණය හා විනය (වි+නය) පද දෙකම තේරුම් ගත යුතුයි.

බාහිර වශයෙන් මෙන්ම, අභ්‍යන්තර වශයෙන්ද තමන් උපාදානය කරගෙන, අල්ලාගෙන "මම, මගේ'' යැයි කියා පවත්වාගෙන යන්නට උත්සාහ දරණ මේ පංච උපාදානස්කන්ධයෙන්ම සහමුලින්ම මිදී නිදහස් විය හැකි එකම ක්‍රමවේදය ධර්මයට බහා ගළපා බලා විනයට සැසඳේ නම් එයම අනුගමනය කිරීමත්, එය නොගැළපේ නම්, නොසැසඳේ නම්, එය අත්හැර නොකිරීමත් යන කරණීය, අකරණීය ධර්ම දෙකම යථා පරිදි දැන තමන්ම අනුගමනය කිරීම කළ යුතුය. මෙයම උතුම් බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ ආනාපාන සතියම බවද හැම බෞද්ධයෙකුම නිවැරදිවම අවබෝධ කරගත යුතුයි.

සංසාර ගැටළුව කාටත් පොදු වූත්, මූලිකම වූත් ගැටළුවයි. පෘථග්ජන ලෝකයාට

නොපෙනෙන්නේත් තේරුම් ගැනීමට නොහැකි වන්නේත් මෙය ගැටළුවක් බවයි. සාරයි, වටිනවා කියා ලෝකයෙන් යමක් එකතු කරගෙන මගේ, මම කියා උපාදානය කරගන්නේ එහි සාරවත් බව දකින නිසාමය. "සං" යනු රාගයෙන්, ද්වේෂයෙන් හෝ මෝහයෙන් යුත් සිතින් සාරවත් යැයි කියා දකින දේ උපාදානය කර ගැනීමයි. එකතු කර ගැනීමයි. මෙතනදී සංසාර ගැටළුව තමන්ම සාදා සකස් කර ගන්නා එකක් බව තමන්ට නොපෙනෙයි. මෙසේ වටිනවා, සාරවත් යැයි කියා අල්ලා උපාදානය කරගත් කිසිම දෙයක් තමන්ට අයිති නැති බව තමා සන්තකයේ දිගටම පවත්වා ගත නොහැකි බව නොදැනීම නිසාම පෘථග්ජන ලෝකයා මාරයාට ණය වෙයි. මේ සියල්ලෙහිම නියම අයිතිකරු මාරයායි. පංචඋපාදානස්කන්ධයම මාරයාට හිමි දේවල්ය. ඒවා පරිභෝජනය කරන්නට භාවිතා කරන්නට හැම ප්‍රාණියෙකුටම, හැම සත්ත්වයෙකුටම සමාන අයිතියක් ඇතත් උපාදානය කරගන්නට නම් කිසිම අයිතියක් නැත. පංචස්කන්ධයම උපාදානය කරගත් පුද්ගලයා හෝ සත්ත්වයා හෝ දෙවියා හෝ මාරයාටද ණය වෙයි. තමන් මෙතෙක් උපාදානය කරගත් සියලු දේ (සබ්බූපදි) අත්හැර දමා ණයෙන් නිදහස් වූ අරහතුන්වහන්සේ මාරයාගෙන්ද මරණයෙන්ද, නිදහස් වූවකු බවට පත්වෙයි. ඒ මාරයාගෙන්, මාරයාට මෙතෙක් පැවති ණයෙන් නිදහස් වූයේ විනයෙහි පිහිටා ක්‍රියාකර ණයෙන් නිදහස් වීමෙනි. විනය යනු වෙන්වීමයි. ණයෙන් වෙන්වීමයි.

"සං" තේරුම් නොගත් "සං" දිට්ඨිකෝ බවට පත් නොවූ සංසාරයි කියා තීරණය කරගත්, "සංවර" නොවූ සංසුන් නොවූ සංයමයට පත් නොවූ, සංසිඳවීම නොකළ හැකි පුද්ගලයා "සම්මා දිට්ඨියට පත් නොවූවෙකි." ඔහු නියත වශයෙන්ම "සංසාර ගැටළුවට" මැදිහත්ව ඉන් මිදෙන්නට මඟක් නොදුටු, දුක් විඳින සත්ත්වයෙකි. ඔහු "රහමෙර" නිසා මත් වූවෙකි. රාගයෙන් මත්වීම, ද්වේෂයෙන්, මෝහයෙන් මත්වීම සංසාර ගැටළුවේ එකම හේතුවයි. රාගක්ඛය, ද්වේෂක්ඛය, මෝහක්ඛය නිවනයි. "ඛය" යනු මුල් සිඳ, මුල් කපා දමා කෙළෙස් ගතිවලින් නිදහස් වීමයි.

* * * * * * * * * * *

## කෙළෙස්, කළු ධර්ම හා කුණු මොනවාද?

ආසව, අනුසය ධර්ම, අකුසල්, සමුදය ධර්ම, කළු ධර්ම, පාප කර්ම, කුණු යනාදී විවිධ පදවලින් බුද්ධ දේශණාවෙහි පෙන්වා වදාළේ කෙළෙස් පිළිබඳවමයි. චිත්ත සංථානය කිළිටි වන්නේ ආගන්තුකව එකතු කරගන්නා උපක්ලේශයන් නිසාමය. මනස මුවහ වී, මොට්ට වන්නේද මේ කෙළෙස් ගති නිසාමය. "කම්මං කණ්හං කණ්හ විපාකං" "කම්මං කණ්හං සුක්ඛං කණ්හ සුක්ඛ විපාකං" යනුවෙන් පෙන්වා වදාළ කම්ම කොටස් දෙකම හේතුකොටගෙන සිතක කෙළෙස් උපදවයි. කළු ධර්ම යනුවෙන්ද කුණු ලෙසින්ද මේ කෙළෙස් නම් කර ඇත.

මාගධී භාෂා ව්‍යවහාරයේ කණ්හ, කාල, කාලං, කාලි, කාලා, ක්ලේසා, කළු යන

විවිධ පදවලින් විවිධ තැන්වල කෙළෙස් විග්‍රහ කර පෙන්වා දී ඇත. සත්ත්වයාගේ චිත්තසංථානය කිළිටි වන්නටත්, මිනිසාගේ මනස මොට්ටකර මෝහයෙන් මුවහ කරන්නටත් එකම හේතුව කෙළෙස්, චිත්තසංථානයේ ගති ලෙසින් ක්‍රියාත්මක වී පැවැතීමයි. සත්ත්වයාගේ මතු උපතට, පැවැත්මට, දුකට හා ජරා මරණයට හේතුවත් කෙළෙස් සහිත වූ සිතක් ක්‍රියාත්මකව පැවැතීමයි.

සුව අසුව දහසක් බුද්ධ ධර්මය දේශණා කරමින් සියලුම ලොව්තුරා බුදුවරයින් වහන්සේලා ලෝකයාට පෙන්වා වදාළේ මේ කෙළෙස්, කළු ධර්ම චිත්තසංථානයෙන් බැහැර කර, ඉවත් කර, අස්කර දමන්නට මාර්ගය කියා දීමත් මනස වැසී, මුවහ වී පවතින කෙළෙස් සහමුළින්ම උදුරා දමා නැවත කෙළෙස් මතු නොඋපදින ලෙසින්ම කෙළෙස් මුල් ගළවා දමන්නටත් අනුගමනය කළ යුතු නොවරදින මාර්ගය කියා දීමයි.

සතියෙහි පිහිටා, සතියෙන් යුතුව ක්‍රියාකරන යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කරන පුද්ගලයාය අසතියෙන් ක්‍රියාකරන, අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කරන දුප්පඤ්ඤස්ස පුද්ගලයාය යැයි කොටස් දෙකකට බුද්ධ දේශණාවේදී මිනිසුන් බෙදා වෙන් කර දක්වයි. අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන පුද්ගලයා කෙළෙස්, කෙළෙස් යැයි නොදනී. කෙළෙස් මුල් පිළිබඳවද නොදනී. මෙනෙහි කළ යුතු දේ සහ මෙනෙහි නොකළ යුතු දේ  පිළිබඳවද නොදනී.

එවන් පුද්ගලයා අනිච්ච දේ නිච්ච සේම දකී. අනිච්ච ස්වභාවයද නොදනී. දුක්ඛ ස්වභාවයෙන් යුතු දේ සුඛ සේ සැප සේම දකී. අනත්ථ ස්වභාවයෙන් යුතු දේ අත්ථ සේ දකී. අස්මිමානයෙන්, මඤ්ඤතාවයෙන් ක්‍රියා කරමින් පංචස්කන්ධයම උපාදානය කරගනී. අසුබ දේ, සුබ සේ, සුන්දර සේ දැක උපාදානය කරගනී. නිරන්තරවම යළි යළිත් කෙළෙස් එකතු කරගෙන චිත්තසංථානයද කිළිටි කරගනී.

එවන් පුද්ගලයා අයෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන කෙනෙකි. අසතියෙන් ක්‍රියා කරන්නෙකි. දුප්පඤ්ඤස්ස පුද්ගලයෙකි. කළ යුතු දේ සහ නොකළ යුතු දේ  තෝරා බේරා ගන්නට නොදන්නා, මඟ හා නොමඟ නොදත් පෘථග්ජන කෙනෙකි.

යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන පුද්ගලයා කෙළෙස් කෙළෙස් ලෙස නිවැරදිවම හඳුනා ගනී. කෙළෙස් මුල් ද නිවැරදිවම හඳුනා ගනී. කෙළෙස් යනු ප්‍රහාණය කළයුතු, වහාම සිතින් ඉවත් කරදමා නිදහස් විය යුතු දෙයක් සේම දකී. කෙළෙස් ප්‍රහාණය නොකර භාවිත කිරීමේ ආදීනව හා ආනිසංසද දකී. සම්මා දිට්ඨියට පත්වන්නටත්, යථාභූත ඥාණ දර්ශනය ලබන්නටත්, චතු අරිය සත්‍යයන් අවබෝධ කර ගන්නටත් ඔහුට අවස්ථාව ලැබෙයි.

අනිච්ච දේ අනිච්ච බව යථාපරිදි දැන ගනී, දැකගනී. " නිච්ච" සංඥාව සිතින් ඉවත් කරගනී. දුක, දුක සේ යථාපරිදි දැන ගනී. දැක ගනී. සුඛ සංඥාව සිතින් ප්‍රහාණය කර ගන්නටද හැකිවෙයි. අනත්ථ දේ අනත්ථ බව යථාපරිදි වටහා ගනී. අත්ථ සංඥාව අස්මිමානය, මමත්වය අත්හරී. අසුබ දේ අසුබ බව දකී. සුබ සංඥාව අත්හරී.

මෙනෙහි කළ යුතු දේ මෙනෙහි කරන්නට දන්නා ඔහු මෙනෙහි නොකළ යුතු දේ සිතින් අතහැර ප්‍රහාණය කර නිදහස් වන්නටද දැනගනී. අනුගමනය කළයුතු ප්‍රතිපදාව ධම්මානුධම්ම ප්‍රතිපදාව තේරුම්ගත් ඔහු මග්ගේ මග්ග ඥාණ දර්ශනයද ලබයි. සම්මා දෘෂ්ඨියටද පත්වෙයි. නොබෝ කලකින්ම චතු අරිය සත්‍යයන් අවබෝධ කරගත් අරිය පුද්ගලයෙකු බවටද පත්වෙයි.

මග්ගාමග්ග (මඟ හා අමඟ) ඥාණ දර්ශනයක් නොලැබූ පුද්ගලයා අරිය පර්යේෂණයන් ගැන හෝ අනරිය පර්යේෂණයන් ගැන හෝ වෙන්කොට දැකගන්නට හැකියාවක් නැති කෙනෙකි. කුසල හා අකුසල ගැනද නොදන්නා ඔහු පින්පව් ගැනද යථාවබෝධයකින් ක්‍රියා නොකරන්නෙකි. කුසල මූලයන් ගැන හෝ අකුසල මූලයන් ගැන හෝ කිසිසේත්ම යථාවබෝධයක් නැති නිසා කෙළෙස් පිලිබඳ නිසි අවබෝධයක් නැත. බොහෝ විටම කෙළෙස්ද වටිනා දේ ලෙසින් දකී. පින්කම් කිරීමේදී පවා අකුසලයක්ම කරගනී. සංසාර ගැටළුව ගැන කිසිම තේරුමක් ඇත්තේම නැත. තේරුම් ගන්නටද උත්සාහ නොකරයි. මේ ගැටළුව සකස් කරගත්තේ තමන්ම බවවත් ඔහු නොදනී. කෙළෙස් සහිත වූ සිතකින් කටයුතු කරන හැම මොහොතක් පාසාම මේ සංසාර ගැටළුවට යළි යළිත් තමන් පැටලැවෙන බවක් පවා ඔහු නොදනී. කෙළෙස් තමාගේ සිත තුළම මුල් බැස ගෙන පවතී නම් කිළිටි වන්නේ තමන්ගේම චිත්තසංථානයම බවවත් ඔහු නොදනී. මේ කෙළෙස් නිසා තමාගේ මනස මුවහ වී මොට්ටයෙකු මෝඩයෙකු බවට පත්වන්නේද තමන්ම බවවත් ඔහුට නොපෙනෙයි. තමන් අවිද්‍යාවෙන්, තණ්හාවෙන් ක්‍රියාකරන පෘථග්ජන පුද්ගලයෙකු බවට පත් වූයේ මේ කෙළෙස් (කුණු) තමාගේ චිත්තසංථානය තුළම ගබඩා වී ඇති නිසා බවද නොදනී. දුක්ඛේ අඥාණං, දුක්ඛ සමුදයේ අඥාණං යනු මෙහි අර්ථයයි.

මෙවන් කෙළෙස් ගති ඇති පුද්ගලයා තමා අපායට යන මාර්ගයේ, දුගතියට යන මාර්ගයේ ගමන් කරන බව නොදනී. අපායට යන මාර්ගය හා සුගතිට යන මාර්ගය වෙන්කොට තෝරා බේරා ගන්නට නොදත් ඔහු සංසාර ගැටළුවෙන් මිදී නිදහස් වන්නට කිසිසේත්ම නොදන්නා කෙනෙකි. දුගතිය වූ අපායත්, සුගතිය වූ කාමලෝකයත් යන දෙකම ඇත්තේ මේ ලෞකික පැවැත්ම තුළම බවත් ලෝකෝත්තර නිවන (නිබ්බාන) යනු මේ සසරට බැඳ තබන බැම්වලින්, කෙළෙස්වලින් මිදී නිදහස්වීම බවවත් ඔහුට තේරුම් ගන්නට නොහැකි වෙයි. ඒ සඳහා සිතන්නට සුදුසු ගැළපෙන මනසිකරණ ශක්තියක් ද ඔහුට නැත.

මිනිසෙකු ලෙසින් අද උපත ලබා ජීවත්වන ඔබ මේ දෙකොටසෙන් කුමන කොටසට අයිති වන්නේද? ඔබ තුළ ඇත්තේ මේ ලක්ෂණවලින් කුමන කොටසට අයත් ගති ලක්ෂණද? දැන් එකින් එක කාරණයක් කෙරෙහිම ආවර්ජනය කර තමා තුළින්ම තමා ගැනම තමන්ම සළකා බලා තීරණයක් ගන්නට තරම් ඔබ සමත් වේ නම් මේ මිනිසත් බවට පත්වීමේ නිසි ඵල ප්‍රයෝජනයක්ද ඔබ ලබා ගත්තා වන්නේය.

කළ්‍යාණ මිත්‍රයෙකුගෙන් අරිය උත්තමයෙකුගෙන් පරම පවිත්‍ර සිරි සද්ධර්මයම අසා

දැන තේරුම් ගැනීම මේ සඳහා පළමුවන අවශ්‍යතාවයි. පරතෝඝෝෂක ප්‍රත්‍ය ලැබෙන්නේ ඒ මාර්ගයෙනි. හේතුඵල දහමට බහා ගළපා ක්‍රියා කරන්නටත් ඔබට ඒ අනුව පුරුදු විය හැකිය. යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන්නෙකු බවට පත්වීම නිසා සම්මා දෘෂ්ඨියට පත් වූවෙකු බවටද පත්වෙයි. එවිට මග්ගේ මග්ග ඥාණ දර්ශනයද ලැබෙයි. දැන් අපායට යන මඟත් දැනගනී. අපායෙන් මිදෙන මඟත් දැනගනී. කාම ලෝකයත් දැනගනී. නිවනත් දැනගනී. නිවනට යන මඟත් දැක ගනී. චතු අරිය සත්‍යයන්ද අවබෝධ කරගනී.

"අවිද්‍යා පච්චයා සංඛාරා, සංඛාර පච්චයා විඤ්ඤාණ" ආදී වශයෙන් විග්‍රහ කරන ලද සංසාර දුකට මුල්වන අවිද්‍යාමූල පටිච්චසමුප්පාද විග්‍රහය යථාපරිදි දැන් තේරුම් ගනී. අවිද්‍යාමූල පටිච්චසමුප්පාද විග්‍රහයේදී විග්‍රහ කර පෙන්වා දෙන්නේ නිවන නොවන බවත් ඉන් පෙන්වා දෙන්නේ නිවන වසා සිටින නිවනට ප්‍රතිපක්ෂ වූ අවිද්‍යාව නිසා සසර බැම්මට බැඳෙන ආකාරයත් බව මනාව දැන් තේරුම් ගනී. අවිද්‍යා නිරෝධ පටිච්චසමුප්පාද විග්‍රහයත් තේරුම් ගනී. සංඛාර නිරෝධ කරමින් විඤ්ඤාණ නිරෝධ කරමින්, භව නිරෝධය තෙක්ම නිරෝධ ගාමිණී මාර්ගයම අනුගමනය කළ යුතු බවත් දැන් යථාපරිදි තේරුම් ගනී.

තෙවනුව කුසලමූල පටිච්ච සමුප්පාද ධර්මයත් තේරුම් ගනී. කුණු මුල් ගළවා සිතින් චිත්තසංථානයේ කෙළෙස් අස්කර දමන තුරාවට "සං" උත්පාදනය වන බවත් දැක කෙළෙස් මුල් ගළවා දමන්නට අනුගමනය කළ යුතු නිවැරදි මාර්ගයම කල්‍යාණ මිත්‍රයෙකුගෙන් නිවැරදිව අසා දැන ඒ මාර්ගයම අනුගමනය කර සම්මා විමුක්තියටම පත්විය යුතු බවද තේරුම් ගනී.

මේ අනුව අයෝනිසෝමනසිකාරයෙන් කටයුතු කිරීම සත්ත්වයාගේ සංසාර දුකට මුල් වූ පළමුවැනි හේතුවයි. අවිද්‍යාව, තණ්හාව, නොදන්නාකම, මෝහය ආදී සියලු ලාමක ගති සිතක දිගින් දිගටම පවතින්නේ අයෝනිසෝමනසිකාරයෙන් දිවි පැවැත්ම පවත්වාගෙන යාම නිසයි.

ධම්මානුධම්ම පටිපදාව අනුගමනය කිරීමෙන්ම යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන මග්ගේ මග්ග ඥාණයෙන් ක්‍රියාකරන සම්මා දිට්ඨියටද පත් වූවෙක් බවට පත්විය හැකි එවන් පුද්ගලයා ධම්මචාරී වෙයි. අධම්මචාරී නොවෙයි. සමචාරී පුද්ගලයෙකු වෙයි. විෂමචාරී, අසමචාරී ගතිවලින් ඉවත් වෙයි. අකුසල කිරියාවලින් ඉවත් වී, කුසල කිරියාවන්හි යෙදෙන්නෙකු වෙයි. පාප කිරියාවලින් ඉවත් වී, පුණ්‍ය කිරියා කරන්නෙකුද වෙයි. මිච්ඡා දෘෂ්ඨියෙන් ඉවත් වූ සම්මා දෘෂ්ඨියට පත් වූ කෙනෙකුද වෙයි.

**කල්‍යාණ, කළණ හා කාලේන යනු කෙළෙස් නැසීමයි**

මිනිසෙකු ලෙසින් උපතක් ලැබූ කෙනෙකු ධම්මානුධම්ම පටිපදාවෙහි යෙදී ක්‍රියා කරනවාය, ධම්මානුධම්ම පිළිවෙතින් පෙළගැසෙනවාය යන්නෙන් අදහස් කරන්නේ, උතුම් බුද්ධ ධර්මය අසා දැන අවබෝධ කරගෙන ඒ ධර්ම මාර්ගය භාවිතයට ගැනීමයි. "සුනේථ, ධාරේථ, චරේථ ධම්මෝ" යනුවෙන් පෙන්වා වදාළ පරිදි බුද්ධ ධර්මය යනු, භාවිතයට ගතයුතු ප්‍රායෝගිකවම අනුගමනය කර අත්විඳ ගත යුතු ප්‍රතිපදාවක් මිස අසා

දැන උගතෙකු වන්නට පමණක් දේශණා කළ ධර්මයක් නොවේ. අද බොහෝ අය ධර්මය උගත් උගතුන් වෙතත් භාවිතයට ගන්නේ නැත. බුද්ධ ධර්මය දැනගත් පමණින් ඒ දැනුම නිවනට හේතු නොවේ. ඒ ධර්මය තුළින් සත්‍යය දැකගත යුතුය. "ජානතෝ, පස්සතෝ" යැයි ප්‍රකාශ කළේ එයයි.

බුදුපියාණන්වහන්සේ දේශණා කර වදාළ නව ලෝකෝත්තර සිරි සද්ධර්මය උපකාර වන්නේත් උපකාර කරගතයුතු වන්නේත් රාගය, ද්වේෂය, මෝහය යන කෙළෙස් ගති සහමුලින්ම සිතින් ඉවත්කර දමා චිත්තසංථානයේ මුල් බැස ගෙන පවතින කෙළෙස් මුල් කපා දමා නැවත කෙළෙස් නොඋපදින ලෙසින්ම තම චිත්තසංථානය හා මනස පිරිසිදු කරගැනීමටය. ඒ මිස ලෞකිකත්වය තුළින් ලබාගත හැකි කාම සම්පත් උපාදානය කරගනිමින්, සුගති ලෝකවල යළි යළිත් උපදිමින්, දෙව් මිනිස් සැප සම්පත් ලබන්නට නම් නොවේ. ලෝකයෙන් එතෙර වන්නට ලෝකෝත්තර තත්ත්වයට පත්වන්නට මිස ලෝකය තුළ අතරමං වන්නට මේ ධර්මය දේශණා කළා නොවේ. මෙයට බුද්ධ ධර්මය යැයි නම් කළේ රාග, ද්වේෂ, මෝහ ගති උදුරා දමා, භව උදුරා දමන්නට, බිහි කිරීමේ ශක්තිය උදුරා දමන්නට උපකාර කරගත යුතු ධර්මයක් නිසාමය. සංසාර ගමන, මතු උපත් බිහි කරන්නේම රාග, ද්වේෂ, මෝහ ගති මනෝමය කය තුළ ගබඩා වී, උපාදානය කරගෙන පවතින නිසයි. චිත්තසංථානයක් තුළින් "රාග, ද්වේෂ, මෝහ ගති" යළි යළිත් බිහි වන්නේ මේ කෙළෙස් ගති මුල් බැසගෙන තමා තුළම පවතින නිසයි.

එසේ නම් මුළු බුද්ධ දේශණාවෙන්ම පෙන්වා දුන් ධම්මානුධම්ම පරියාය, නිබ්බේදික පරියාය, වේදිතබ්බෝ ධම්ම පරියාය මඟින් විග්‍රහ කර පෙන්වා වදාළේ ප්‍රායෝගිකවම කෙළෙස් ප්‍රහාණය කරදමා කෙළෙස් මුල් සිඳ දමන්නට මාර්ගයයි. ආසවක්ඛයා ඥාණය අවබෝධ කරගැනීම යනු කෙළෙස් මුල් ගළවා දමා නැවත කෙළෙස් නොඋපදින ලෙසින්ම සම්මා විමුක්තියට පත් වීමයි.

කළ්‍යාණ, කළණ, කාලේන, කාලාමා, කාලෝ යනාදී මාගධී පදවලින් බුද්ධ දේශණාවෙහි පෙන්වා වදාළේ කෙළෙස් නැසීම, කෙළෙස් සහමුලින්ම ඉවත් කිරීම, කෙළෙස්වලින් මිදී නිදහස් වීම, කෙළෙස් මුල් ගළවා දැමීම යන අදහසයි. කළ්‍යාණ ධර්ම සූත්‍රය, කළ්‍යාණ මිත්‍ර සූත්‍ර 5ක් හා කළ්‍යාණ සීල සූත්‍රයේත්, කුසල සූත්‍ර 4 කත්, කාල සූත්‍ර දෙකකත්, කාලාමා සූත්‍රයේත්, එග්ගුණ සූත්‍රයේත් තවත් සූත්‍ර ධර්ම විශාල ගණනකමත් කාලෙණ, කළ්‍යාණ, කළන යන පද විග්‍රහ වී ඇත.

| | | |
|---|---|---|
| කළ්‍යාණ | - | යන පදයෙන් විග්‍රහ කළේ කෙළෙස් නසන්නට, කෙළෙස් ප්‍රහාණය කරන්නට උපකාර වන යන අර්ථයයි. |
| කළණ | - | යන පදයෙන් විග්‍රහ කළේද කෙළෙස් ප්‍රහාණය කරදමා, කෙළෙස් නසා දමන්නට උපකාර වන යන අර්ථයයි. |
| කාලේන | - | යනු කෙළෙස් නසන, නැති කරන යන අර්ථයයි. |
| කාලාමා | - | යනු කෙළෙස්, කළු ධර්ම සහමුලින්ම උදුරා දමා, මිදී නිදහස් වීම යන අර්ථයයි. |
| කාලෝ | - | යනු කෙළෙස් තවන, කෙළෙස් දවන, යන අර්ථයයි. |

අංගුත්තර නිකායේ චතුත්ථක නිපාතයේ එන කාල සූත්‍ර හා දුතිය කාල සූත්‍රයේත් අංගුත්තර නිකායේම ඡක්ක (6) නිපාතයේ එන එග්ගුණ සූත්‍රයේත් "කාලේන" යන මාගධී පදය බහුලවම භාවිතා කර ඇත (කාලේ+න). දුතිය කාල සූත්‍රයේ එන මේ මාගධී පදවැල් හොඳින් විමර්ශණය කරන්න.

"කාලේන ධම්ම සවණං, කාලේන ධම්ම සාකච්ඡා, කාලේන සමථෝ, කාලේන විපස්සනා, ඉමේ බෝ භික්ඛවේ චත්තාරෝ කාලා සම්මා භාවියමානෝ, සම්මා අනුපරිවත්තිය මානා, අනුපුබ්බේන ආසවානං ඛ්‍යයං පාපෙන්ති"

මෙතන කාලේන යන මාගධී පදයෙන් විග්‍රහ කළේ (කාලේ+න) කෙළෙස් නැසීම යන අර්ථයයි. හතර අවස්ථාවේදීම කාලේන යන පද කෙළෙස් නසන යන අර්ථයෙන්ම භාවිතා කර ඇත. නමුත් ත්‍රිපිටකය සිංහලයට පරිවර්තනය කිරීමේදී "කාලේන" යන්න "නිසි කාලය, සුදුසු කාලය" යන "පද+පරම" අර්ථයෙන් වැරදියට පරිවර්තනය කර ඇති බව පැහැදිලිවම දැකිය හැකිය. "සම්මා භාවියමානෝ සම්මා අනුපරිවත්තියමානෝ ආසවානං ඛයා" යනුවෙන් පෙන්වා දුන්නේ කෙළෙස් ප්‍රහාණය කිරීමයි. සංමා කිරීම යන අර්ථයෙනි. "කාලේන සමථෝ" යනු සමථ භාවනාවෙන්ද තාවකාලිකව කෙළෙස් දුරලා කෙළෙස් ප්‍රහාණය කරගත හැකි බව පෙන්වා දීමයි. "කාලේන විපස්සනා" යනු කෙළෙස් සහමුළින්ම නසා දමන්නට විපස්සනා භාවනාව උපකාර කරගත යුතු බවයි. "කාලේන ධම්ම සවනං" කීවේ උතුම් බුද්ධ ධර්මය ශ්‍රවණය කළ යුත්තේ කෙළෙස් නැසීම සඳහාය යන්නයි. ධර්මය සාකච්ඡා කළ යුත්තේද කෙළෙස් දැන හඳුනා, කෙළෙස් ප්‍රහාණය කිරීම සඳහාය යන්න මේ සූත්‍රයේදී ඉතාම පිරිසිදුව, පැහැදිලිව දේශණා කර ඇත. ධර්මය අවශ්‍ය වන්නේ කෙළෙස් ප්‍රහාණය කර දමන්නටමය යන්න මෙයින් ඔප්පු වෙයි.

මේ අනුව කාල, කාලේ යනු කෙළෙස්ය. කාලේ+න යනු කෙළෙස් නැසීමය. උතුම් බුද්ධ ධර්මය අසා දැනගත යුතු වන්නේත් ධර්මය සාකච්ඡා කළයුතු වන්නේත් සමථ විපස්සනාදී ධම්මානුධම්ම ප්‍රතිපදාවන්හි යෙදී භාවනා කළයුතු වන්නේත් ආසව කපා දැමීමට කෙළෙස් මුල් කපා ගළවා දැමීමට සම්මා තත්ත්වයට පත්වීමට බව මෙහිදී පැහැදිලිවම තේරුම් ගත යුතුය.

බුද්ධ ධර්මය දේශණා කරන්නට බුද්ධ ධර්මය සාකච්ඡා කරන්නට හෝ සමථ විපස්සනා භාවනා කරන්නට හෝ නුසුදුසු හෝ අනිසි කාලයක් හෝ නැත. සුදුසු හෝ නිසි විශේෂ කාලයක්ද නැත. දවසේ පැය විසිහතර පුරාම මුළු ජීවිත කාලය පුරාම ලැබුණු හැම අවස්ථාවකදීම මේ සඳහා සුදුසුය. ඒ නිසා මෙහි නිසි කාලයක් පෙන්වා දී නැත. බුද්ධ ධර්මයේ පෙන්වා වදාළේ "අප්පමාදේන සම්පාදේථ" යනුවෙනි.

"බුද්ධ ධර්මය" යන පදවලම ඇති පරම අර්ථය නම් "කෙළෙස් ප්‍රහාණය කරන්නට කෙළෙස් උදුරා දමන්නට උපකාර වන දරාගත යුතු දේ" යන්නයි. කෙළෙස් ප්‍රහාණය කරන්නට උපකාර නොවන යම් දේශණාවක් වේ නම් එය බුද්ධ ධර්මයද නොවේ. එය "කාලේන ධම්ම" කොටසට අයත් නොවේ.

මහා මංගල සූත්‍රයේදීත් ඔබ නිතර කියවා පුරුදු "කාලේන ධම්ම සවනං කාලේන ධම්ම සාකච්ඡා" යනු කෙළෙස් නැසීමට කෙළෙස් ප්‍රහාණය කර දැමීමට බුද්ධ ධර්මය භාවිතා කළ යුතු බව මිස නිසි හෝ සුදුසු කාලයට යන අර්ථයක් මෙහි නැත. නිවන වසා සිටින, නිවනට ප්‍රතිපක්ෂ වූ, කෙළෙස් ප්‍රහාණය කර දැමීම කෙළෙස් නසා දැමීම බුද්ධ ධර්මය භාවිතා කිරීමේ ඒකායන පරමාර්ථයයි.

"කාලි" යනු කෙළෙස්ය. රාග, ද්වේෂ, මෝහ ගති ගුණයන්ය. කාලි මැණියෝ, භද්‍රකාලී දේවිය යනුවෙන් කෙළෙස්වලට අධිපති දේව සංකල්පයක් දේව ආගම්වල ඇත. රාගයට, ද්වේෂයට, මෝහයට අධිපති දේවතාවිය කාලි මැණියන්ය. පළිගහන්නට, වෛර පිරිමහන්නට, රාගයෙන් බැමි තද කරගන්නට, මෝහයෙන් යදින්නට, බොහෝ අය "කාලි" පිහිට පතන බව බෞද්ධයින් නිවැරදිව තේරුම් ගත යුතුය. කුසලයක් කරගන්නට හෝ පින්කමක් කරගන්නට හෝ කාලි මැණියන් ළඟදී හැකියාවක් නැත. එහිදී පාපයක්, අකුසලයක්ම සිදු කරගත හැකි වෙයි.

"ධම්මස්සවණ කාලෝ අයං භදන්තා" යනුවෙන් හැම ධර්ම දේශකයින්වහන්සේ කෙනෙකුම ධර්ම දේශණාව ආරම්භයේදී ආරාධනා පාඨයක් ලෙසින් ප්‍රකාශ කරතත් මෙහි නිවැරදි අර්ථය දැන භාවිතා කරන බවක් නොපෙනේ. "මේ ධර්මය අසා දැන කෙළෙස් තවන්නට, කෙළෙස් දවන්නට, කෙළෙස් ප්‍රහාණය කරන්නට අවධානය යොමු කරන්න" යනු මේ පාඨයේ අර්ථයයි. එසේ නැතිව ධර්මය දේශණා කරන කාලයක් මෙහිදී අර්ථ දක්වා නැත. ධර්ම දේශණාවකට සවන් දෙන්නට පැමිණි දේව, මනුස්ස දෙකොටසටම තවත් වරක් ඒ බව ප්‍රකාශ කළ යුතු වන්නේ නැත. මේ ධර්ම දේශණාවෙන් ප්‍රකාශ කරන දේ අසා දැන, කෙළෙස් ප්‍රහාණය කරගෙන, සිත ඒකාග්ගතාවටත්, චේතෝ විමුක්තියටත් පත්කර ගැනීම සඳහා මීට කන් යොමු කරන්න යන අර්ථය මෙහි ඇත.

වස්සාන සමයෙහි "අයං වස්සාන කාලෝ" යනුවෙන් බොහෝ විහාරස්ථානවලත්, ආරණ්‍ය සේනාසනවලත් ලියා දක්වා ප්‍රදර්ශනය කරනු ලැබේ. මෙහි අර්ථය කෙළෙස් තවමින්, කෙළෙස් දවමින් ධම්මානුධම්ම ප්‍රතිපදාවෙන් වෙසෙන බව දැන්වීම මිස "මම වැසි කාලය ගතකරමි" යන වැරදි අර්ථයක් නොවේ. එදා ගෝතම බුදුපියාණන් ජීවමානව වැඩ සිටි යුගයේ බොහෝ නවක භික්ෂූන් කර්මස්ථාන ගෙන නිදහස් තැනකට ගොස් ධම්මානුධම්ම ප්‍රතිපදාවෙහි යෙදී කෙළෙස් දවාහැර, මගඵල ලබාගත්තේ මේ වස්සාන සමයේදීය. මේ අනුව "අයං වස්සාන කාලෝ" යන්න නිවැරදිව දැන භාවිතා කරන්නේ නම් වස් සමය කෙළෙස් තැවීම සඳහාම වෙන් කරගත යුතුය. වස් අධිෂ්ඨානය යනුද කෙළෙස් තැවීමට යම් වේලාවක් සිතින් වෙන්කර ගැනීමයි. අද මේ පදවැල් සම්මත කරගත් දේ මිස නිවන් මගඵල පිණිස භාවිතා කරන කෙළෙස් තවන්නට උපකාර කරගන්නා දේ ලෙසින් භාවිතා නොවේ. ඊට හේතුව මේ පදවැල්වල ධර්ම අර්ථය යටපත්ව ගොස් සම්මත පදපරම අර්ථය ඉස්මතු වී භාවිතයට ගැනීමයි.

මාගධී බුද්ධ භාෂිතයේ කළු, කාල, කාලි, කාලේන, කාලාමා, කාලෝ, කාලං, කණ්හ ආදී සියලුම පද භාවිතා කළේත් මේ පදවලින් අර්ථ දැක්වූයේත් කෙළෙස් හා කෙළෙස්

ප්‍රහාණය පිළිබඳවමය.

මාගධී භාෂාවේ වේලාව, කාලය දක්වන්නට යොදාගත් පදයන් කිහිපයක්ම ඇත. "යාමය, සමය, යුගය, කප්පය" යන පදයන් කාලය, වේලාව, අවස්ථාව දැක්වීමට යොදාගෙන ඇත. කෙටි කාලයක් දක්වන්නට සමය, යාමය යන පදද දිගු කාලයක් දක්වන්නට යුගය, කප්පය (කල්පය) යන පදයන්ද භාවිතා කර ඇත.

මේ අනුවම බුද්ධ භාෂිතයේ, බුද්ධ ධර්මයේ ගුණ විග්‍රහ කරන ධර්මය වන්දනා කරන ගාථා පාඨයක "අකාලිකෝ" යන පදය සඳහන් වේ. "අ"= යන්නෙන් අත්හැරීම, අත්මිදීම, අභාවිතය යන අර්ථය ලබා දෙයි. බුද්ධ භාෂිතයේ අත්හැරීම, ප්‍රහාණය කිරීම, අස්කිරීම, පෙන්වා දීමට නිතරම "අ" යන්න යොදාගෙන ඇත. නිවන විග්‍රහ කළ පද 21 කම "අ" යන්නෙන් අත්මිදීම විග්‍රහ කර ඇත. "අජාතං, අමතං, අසෝකං, අභූතං, අසංඛතං, අජරං, අමරං, අනුපායෝ, අනපායෝ, අසද්ධෝ, අකතඤ්ඤුතේ, අනිච්චං, අනත්ථං, අප්පටිවිද්ධෝ, අනනිස්සිතෝ, අරහං" මේ හැම පදයකම "අ" යන්නෙන් අත්හැර දැමීම, අස්කර දැමීම, අභාවිතය විග්‍රහ කර ඇත. නිබ්බාන යනු බාන ලෙහා, බාන අත්හැර දැමීමයි. මේ අනුව "අකාලිකෝ" යන පදයේ ධර්ම අර්ථය කෙළෙස් අත්හැර, කෙළෙස්වලින් මිදී, කෙළෙස් ප්‍රහාණය කරන්නට උපකාර වන දේ බුද්ධ ධර්මය බව මෙහිදී පෙන්වාදී ඇත. මෙය කාලයකට, යුගයකට සම්බන්ධ කළ නොහැකිය.

"සංදිට්ඨිකෝ" ගුණයට පසුවම "අකාලිකෝ" ගුණය දැක්වූයේ "සං" (සමුදය) දැකගත් කෙනෙකුටම මිස කෙළෙස් අත්හැර, කෙළෙස් ප්‍රහාණය කර දමන්නට ක්‍රියා කරන්නට නොහැකි නිසා "සං" නොදුටු කෙනෙකුට අකාලිකෝ වන්නට ද නොහැකි හෙයිනි. මේ අනුව ''සංදිට්ඨිකෝ, අකාලිකෝ, ඒහිපස්සිකෝ, ඕපනයිකෝ, පච්චත්තං වේදිතබ්බෝ විඤ්ඤුහීති'' යන ධර්මයේ සියලු ගුණයන්ගෙන් විග්‍රහ කර පෙන්වා වදාළේ කෙළෙස් සොයා දැන කෙළෙස් ප්‍රහාණය කර කෙළෙස් අත්හැර කෙළෙස් උපත ලබන කෙළෙස් මුල් ගළවා දමා සවු කෙළෙස් නසා මගඵල ලබන්නට අනුගමනය කළ යුතු අනුපූරක වූ නිබ්බාන මාර්ගය විග්‍රහ කිරීම බව තේරුම් ගත යුතුය. බුද්ධ ගුණ හෝ සංඝ ගුණ හෝ යම් පුද්ගලයෙකු තුළ ප්‍රත්‍යක්ෂ ලෙසින් පිහිටන්නේත් ලෝකෝත්තර නිවන් සුවයට පත්වන්නේත් ධර්මයේ ගුණයන් හයම තමා තුළින්ම ධම්මානුධම්ම පටිපදාවෙහි යෙදීමෙන්ම සම්පූර්ණ කරගැනීමෙනි. ධර්ම ගුණයන් අවබෝධ කර නොගත් පුද්ගලයා බුද්ධ වන්නේද නැත. සංඝ වන්නේද නැත. මේ හේතුව නිසාම බුදුපියාණන්වහන්සේද ධර්මයම ගුරුතන්හි ලා ගෞරව කළ සේක. බුද්ධ ධර්මයම ලෝකයාට දේශණා කළ සේක. ධර්මයේ පිහිටා කටයුතු කරන ලෙසින්ම ලෝකයාටද අනුශාසනා කළ සේක.

මානසික ආතතිය, මෝහය, මොට්ටකම, රාගයෙන් ඇලීම, ද්වේෂයෙන් ගැටීම ආදී සියලු ළාමක ගති ගුණ මිනිසෙකු තුළින් ක්‍රියාත්මක වන්නේ චිත්තසංථානය කෙළෙස් වලින් කළු ධර්මවලින් පිරී පවතින නිසාමය. තමන්ම උපාදානය කරගෙන, ගබඩා කරගෙන, තමන්ගේම චිත්තසංථානයේ පොදි ගසාගෙන පවතින මේ කෙළෙස් පොදිය දැක ඒ කෙළෙස් පොදිය සිතින් අත්හැර අලුතින් කෙළෙස් උපදවීමද සහමුලින්ම නවතා දමා කෙළෙස්වලින් නිදහස් වූ තත්ත්වයට පත්වීම නිබ්බාන සච්ඡිකිරියා තත්ත්වයයි.

"කාල කිරියා (කාල ක්‍රියා) කාලං කරෝති" යනුවෙන්ද මාගධී බුද්ධ භාෂාවේ බහුලවම "කාල" පදය භාවිතා කර ඇත. කාල යනු මෙතැනද කෙළෙස් පොදිය යන්න අදහස් කෙරේ. කෙළෙස් පොදිය කරගහගෙන ගමන් කිරීම ක්‍රියා කිරීම කාල කිරියා, කාලං කරෝති යන්නෙහි අදහසයි. යමෙකු මරණයට පත්වන විට කෙළෙස් පොදියද කරගහගෙන මරණයට පත්වූයේ නම් ඔහු කරන්නේ මනෝමය කයෙහි තැන්පත් කරගෙන ඇති කෙළෙස් පොදියද සමගම වෙනත් ජාතියක උපත ලැබීමයි. කෙළෙස් පොදිය සහමුළින් ප්‍රහාණය කර සියලු කෙළෙස් බහා තැබූ අරහතුන්වහන්සේට ''කාලං කරෝති'' යන්න භාවිතා කරන්නේ නැත. ''අරහතුන්වහන්සේ අපවත් වූහ''යනුවෙන් අපි භාවිතා කරමු. උන්වහන්සේ පවැත්ම අවසන් කර, පැවැත්ම අත්හැර, අපවැත්ම යන තත්ත්වයට නිදහස් වූ කෙනෙකි.

කෙළෙස් පොදිය බහා තබන්නට නොදන්නා අසමත් පුද්ගලයා, කෙළෙස් පොදියද කරගසාගෙන සංසාරයේ අතරමංවී, මංමුළාවී සැරිසරණ බව ප්‍රකාශ කළේ "කාලං කරෝති, කාලකිරියා" යන මාගධී පද වලිනි. "කාලං කරෝති" යන පදයෙහි තවත් අර්ථයක් ඇත. මතුවට තව තවත් කෙළෙස් එකතු කරමින් කෙළෙස් පොදිය තව දුරටත් තර කරගන්නට ක්‍රියා කිරීම යන අර්ථයද "කාලං කරෝති" යන පදයේ ඇත. උතුම් බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ මාගධී පදවැල් වල මෙවැනි ඉතාම වැදගත් අර්ථ, ධර්ම ගැබ්වී ඇතත්, අද මේ පදවැල් පදපරම ලෙසින් අර්ථ ගන්වා ධර්මය විකෘති කර ඇත.

කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය යනු කෙළෙස් නසන්නට උපකාර වන කෙළෙස් නසන්නට මාර්ගය කියා දෙන අරිය උත්තමයාගේ ආශ්‍රය යන්නයි. ඒ මිස අද සම්මතයෙන් හඳුන්වන යාළුවා, මිත්‍රයා හෝ නෑයා යන අර්ථයක් මෙහි නැත. ලෝකයෙන් එතෙර වීමට කෙළෙස් බර පහා තබන්නට සංසාර බැමි ගළවා දමන්නට උපකාර වන ආකාරයෙන් කළු නසන්නට උපකාර වන පුද්ගලයාම කළ්‍යාණ මිත්‍රයාම වෙයි. අතීත අනුරාධපුර යුගයේදී පවා "කළු" යන්න කෙළෙස් නසන අර්ථයෙන් භාවිතා කළ බව පෙන්වා දෙන්නට හොඳ උදාහරණයක් ඇත.

කළු බුද්ධරක්ඛිත හිමි කළුවර රැයෙක, කළුදිය පොකුණ ළඟ, කළු තිඹිරිගහ යටදී, කාලේන ධර්ම දේශණාවක් කර, කළු නැසූ බව සඳහන් කථාව ඔබද අසන්නට ඇත.

කළුදිය පොකුණ යනු කෙළෙස් පොදියක් සහිත වූ චිත්තසංථානය උපමා කොට පෙන්වීමකි. කාලේන ධර්ම දේශණාවක් කර, කෙළෙස් බිහිකිරීම උදුරා දැමූ නිසා, බුද්ධ (බු+උද්ධ) නම් විය. මෙහි සඳහන් සියලු තැන්වල "කළු" යනු කෙළෙස් යන අර්ථයයි. කාලේන යනු කෙළෙස් ප්‍රහාණය කිරීමයි.

බුද්ධ දේශණාවේ නිතර භාවිතා කර ඇති කාල, කාලි, කළු, කාලාමා, කළ්‍යාණ, කළණ, කාලේන යන පද කෙළෙස් හා කෙළෙස් ප්‍රහාණය කිරීම සම්බන්ධව විස්තර කිරීමට යොදාගත් පද බව නිවැරදිව තේරුම් කර ගැනීමට නොහැකි වීම නිසා අද බොහෝමයක් දෙනා පින්කම් හා කුසල් යන පද දෙකද පටලවා ගෙන ධර්මාවබෝධයෙන්

තොරව සංසාර සාගරයේ අතරමංවී ඇති බවත් පැහැදිළිවම පෙන්වා දිය යුතුය.

## කරණීය ධර්ම හා අකරණීය ධර්ම

"බුද්ධ ධර්මය තේරුම් ගන්න බැහැ. ධර්මය අවබෝධ කර ගන්න බැහැ. මේ ධර්මය හරිම ගැඹුරුයි. අපට මේව ගැළපෙන්නෙ නැහැ" ආදී වශයෙන් යම් කෙනෙකු හිතනවා නම්, ප්‍රකාශ කරනවා නම් එතැනදී බුද්ධ ධර්මය යථා පරිදි අවබෝධ කරගැනීමට තරම් තමන්ගේම මනස පිරිසිදු නැති බව අවබෝධ කරගත යුතුයි. තමන්ගේ මානසිකත්වය අපිරිසිදුයි යන්න තමන්ම දැන ගත යුතුයි. තමන්ගේම මනස මෝහයෙන්, මිච්ඡා දෘෂ්ඨිවලින් උපාදානය කරගත් ප්‍රිය අප්‍රිය දේ වලින් වසාගෙන මුවහ කරගෙන සංසාර දෘෂ්ඨියකින්, ලාභ දෘෂ්ඨියකින්, ආස්වාද දෘෂ්ඨියකින් කටයුතු කරන්නට පුරුදු වූ පුහුණු වූ කෙනෙකුගේ කිළිටි සිතකින් බුද්ධ ධර්මය වැනි පිරිසිදු උතුම් ධර්මයක් අවබෝධ කරගන්නට තරම් සුදුසු තත්ත්වයක් සිතේ නොපවතී. ඒ අනුව උතුම් බුද්ධ ධර්මය තේරුම් ගන්නට, අවබෝධ කර ගැනීමට නොහැකි වීම වෙනත් කාගේවත්ම වරදක් නොවේ. තමන්ගේම වරද බවත්, තමන්ගේ මානසිකත්වය, යෝනිසෝමනසිකරණ ශක්තිය දුර්වලයි යන බවත් මිනිසකු ලෙස තම තමන්ම තේරුම්ගත යුතුයි.

තවත් බොහෝම අය ප්‍රකාශ කරන්නේ "මට අහගත්තු ධර්මය මතකයේ තියාගන්න බැහැ. සියල්ලම ටික වෙලාවකින්ම අමතක වෙලා යනවා" යනුවෙනි. එසේ නම් ඒ පුද්ගලයාත් දැනගත යුතු වන්නේ ඒ පුද්ගලයාගේම චිත්තසංථානය අනවශ්‍ය කුණු වලින්, කෙළෙස් වලින් පුරවාගෙන ඇති නිසා චිත්තසංථානය අපිරිසිදු නිසාම උතුම් ධර්මය යහපත් දේ මතක තබා ගැනීමට තමන්ට නොහැකි බවයි. චිත්තසංථානය අපිරිසිදු වීමට හේතුව ප්‍රිය දේට ඇලීම යන රාගයෙන් මත්වීම නිසාත්, අප්‍රිය දේට ගැටීම යන ද්වේෂය, වෛරය සිතේ පැවතීම නිසාත්ය. සිත අසහනයට, කම්පනයට පත් වූ විට චිත්තසංථාන තුළට ගතයුතු දේ හා නොගත යුතු දේ තීරණය කර ගැනීමට නොහැකි වීම අමතක වීම ලෙස හැඳින්වේ.

චිත්තසංථානය අපිරිසිදු වීමෙන් මනස මුවහ වේ. මනසේ සෙලයන් වැසී, මුවහ වී මනසිකරණ ශක්තිය දුර්වල වේ. අසා දැනගත් ධර්මය ආශ්‍රයෙන්ම දැකගතයුතු යථා තත්ත්වය යථාභූත ඥාණ දර්ශනය දැක ගැනීමටත් නොහැකි වීමට හේතුව තම තමන්ගේම මනසිකරණ ශක්තිය දුර්වල වීමයි.

බොහෝමයක්ම පෘථග්ජන පුද්ගලයින් ප්‍රිය අප්‍රිය අරමුණු නිසා රාගයෙන් ඇලී බැඳී කටයුතු කරති. ද්වේෂයෙන්, වෛරයෙන් ගැටෙති. චිත්තසංථානය තමන්ම අපිරිසිදු කර ගනී. ලේ ධාතුව කිළිටි වී, මනසත් මෝහයෙන් මුවහ කරගනී. යම් කිසි ආකාරයකින් මේ උතුම් බුද්ධ ධර්මය අහගන්නට ලැබුණොත්, ඒ පුද්ගලයා හේතුඵල ධර්මතාවය යම් තරමකින් හෝ තේරුම් ගත්තොත්, සතියෙහි පිහිටා සතියෙන් කටයුතු කරන්නට සිත පුරුදු කර ගත්තොත් ඒ පුද්ගලයාට තමන්ගේම සිත පිරිසිදු කරගන්නට ලේ ධාතුව පිරිසිදු කරගන්නට මනස පිරිසිදු කරගෙන මනසිකරණ ශක්තිය භාවිතා කරන්නට ශක්තියක් ලැබේ. මනසිකරණ ශක්තිය තමා තුළම දියුණු වූ විට කරණීය ධර්ම හා අකරණීය ධර්ම

යන දෙපැත්ත වෙන්කොට තෝරා බේරා ගත හැකි වේ. සතර සතිපට්ඨානයෙහිම පිහිටා කටයුතු කරන්නටත් තමාම පුරුදු වේ. ඒ අනුව නිරෝධගාමී මාර්ගයත් සම්පූර්ණ වේ. රාග, ද්වේෂ, මෝහ ගති තමන් තුළම පවතින්නෙත් එවන් කිළිටි ගති තමාම පරිහරණය කරමින්, භාවිතා කරමින්, අකුසල් සිතකින් කටයුතු කරන්නෙත් තමන්ගේම මනස මෝහයෙන්, අවිද්‍යාවෙන් මුවහ වී පවතින නිසයි. මේ කිළිටි ගති තමන්ම එකතු කර ගත් දේවල් වේ. කැමැත්තෙන්ම එකතු කර ගත් දේවල්ය. ඒ නිසාම ඒවාට "ගති" ලෙස හඳුන්වයි. තමන්ම එකතු කරගත් තමන්ගේම චිත්තසංථානයේ තැන්පත් වූ මුල් බැසගත් මෙවැනි "ගති" බාහිර කාටවත් දැකිය නොහැකියි. වෙන බාහිර පුද්ගලයෙකුට ඒ ගති අස් කර, අයින් කර, ප්‍රහාණය කර ඉවත් කළ නොහැකියි. සීල, සමාධි, පඤ්ඤා යන ත්‍රිශික්ඛාවම තමන්ම පිළිපැදිය යුතු තමන්ම අනුගමනය කළයුතු ප්‍රතිපදාවන් සමූහයකි. මේ ප්‍රතිපදාවන් තුළ ප්‍රායෝගිකවම භාවිතා කළයුතු හා භාවිතා නොකළ යුතු ලෙස තෝරා බේරා ගතයුතු දෙපැත්තක්ම ඇත.

"සබ්බ පාපස්ස අකරණං" යනු භාවිතා නොකළ යුතු අකරණීය ධර්මයන් කොටසයි. "කුසලස්ස උපසම්පදා" භාවිතා කළයුතු කරණීය ධර්මයන් කොටසයි. "සේවිතබ්බා" යනුද භාවිතා කළයුතු, සේවනය කළයුතු ධර්මයෝයි. "අසේවිතබ්බා" යනු සේවනය නොකළ යුතු, ආශ්‍රය නොකළ යුතු බැහැර කළයුතු අධර්මයන් කොටසටයි.

"අස්ස" ''ආන'' යන පදවලින් බොහෝ තැන්වල පෙන්වා දුන්නේද ආශ්‍රය කළයුතු, ඇතුළට ගතයුතු යහපත් ධර්මයන් යන අදහස අර්ථය ඇතිවයි. "පස්ස" "පාන" යන පදවලින් පෙන්වා දුන්නේ සහමුළින්ම ගළවා ප්‍රහාණය කළ යුතු බැහැර කළයුතු අයහපත් අධර්මයන් යන අර්ථයෙනුයි.

ආශ්‍රය කළයුතු වන්නේ, සුදු ධර්මයන්ය. චිත්තසංථානය හා මනස යන දෙකම පිරිසිදු කරන, පවිත්‍ර කරවන, කුණු සළා හැර, අස් කර දමන්නට උපකාර වන ක්‍රියාකාරකම් ආශ්‍රය කළ යුතුයි. ප්‍රහාණය කර අස්කර දැමිය යුත්තේ කළු ධර්මයන්ය. චිත්තසංථානය කිළිටි කරන, මනස මුවහ කර, මෝහය මතු කරන කෙළෙස් ධර්මයන් සිතින්ම ගළවා සහමුළින්ම ඉවත්කර දැමිය යුතුය.

මේ කළු, සුදු යන ධර්මයන් දෙකම ඇතුළට ගැනීමටත්, පිට කිරීමටත් උපකාර කරගතහැකි දොරවල් හයක්ම හැම කෙනෙකුටම උපතින්ම ලැබී ඇත. මේ දොරවල් හයකින්ම ඇතුළට ගැනීමේ ක්‍රියාවත් පිටතට බැහැර කිරීමේ ක්‍රියාවත් යන දෙකම හැම පුද්ගලයෙකුටම පාලනය කළ හැකිය. ඇතුළට ගත යුතුදේ මොනවාද බැහැර කළයුතු දේ මොනවාද යන්න තීරණය කිරීම හා ඒ තීරණයන් ක්‍රියාත්මක කිරීම නම් හැම මිනිහෙකුටම එක හා සමානවම ක්‍රියාත්මක කළ නොහැකිය. තමාට ප්‍රිය දේ ඇතුළට ගැනීමත්, අප්‍රිය දේ බැහැර කිරීමත් පෘථග්ජන පුද්ගලයෙකුගේ සංසාර පුරුද්දයි.

කළු ධර්ම කෙළෙස් බැහැර කිරීමත්, සුදු ධර්ම චිත්තසංථානය හා මනස පිරිසිදු කරන වීතරාගී, වීතද්වේෂී, විතමෝහී ක්‍රියා ආශ්‍රයට ගැනීමත්, භාවිතයට ගැනීමත්,

ධර්මාවබෝධය ලැබූ ධම්මානුධම්ම පටිපදාවෙහි යෙදෙන පුද්ගලයෙකුගේ ප්‍රතිපදාවයි.

මෙය අරිය විනයෙහි, බුද්ධ භාෂිතයෙහි පෙන්වා වදාළ ආනාපානසති භාවනාවයි. සතර සතිපට්ඨානයෙහි පිහිටා කටයුතු කළ හැකි වන්නේ මේ ආකාරයට ආනාපාන සතියෙහි පිහිටා ක්‍රියා කරන්නට පුරුදු පුහුණු වීමෙනි.

"ඒකායනෝ අයං භික්ඛවේ මග්ගෝ,
සත්තානං විශුද්ධියා,
සෝකපරිද්දවා නං සමතික්කමාය,
දුක්ඛ දෝමනස්සානං අත්ථංගමාය
ඥායස්ස අධිගමාය,
නිබ්බානස්ස සච්ඡිකිරියාය
යදිදං චත්තාරෝ සතිපට්ඨානා"

සතර සතිපට්ඨාන භාවනාව බුද්ධ භාෂිතයට අනුකූලව නිවැරදි ආකාරයට භාවිතා කරන ඕනෑම පුද්ගලයෙකුට මෙහි ඉහත සඳහන් වන ආනිසංස යහපත් ප්‍රතිඵල සියල්ලමත් නොවරදවාම ලබාගත හැකි වීම නියත වේ. මේ ඉහත සඳහන් ආනිසංස පහෙන්මත් විග්‍රහ වන්නේ නිවනම වේ.

"සත්තානං විශුද්ධියා" - චේතෝ විමුක්තියත්, ප්‍රඥා විමුක්තියත් යන දෙකම සම්පූර්ණ කර ගැනීමෙන්ම ලබා ගත යුතු ශුද්ධ පවිත්‍ර වීමක් චිත්ත පාරිශුද්ධියක් යෝනිසෝ මනසීකරණ ශක්තියෙන්ම ලබාගත යුතු ප්‍රඥා ශක්තියත් යන දෙකමත් ලබා ගැනීමට නොවරදින මාර්ගය නම් සතර සතිපට්ඨානයෙහි යෙදීමයි.

මතු නැවත නැවතත් උපත ලබයි නම් "උප්පජ්ජති" යන තත්ත්වයට මතු මතුත් පත් වේ නම් ජාති, ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්, දොම්නස්, උපායාස නියත වශයෙන්ම තමන්ටම උරුම වේ. කුමන ආකාර වූ සුගති ලෝකයකදීත් මේ සියල්ලමත් උරුම වේ. හිමි වේ. උතුම් බුද්ධ ධර්ම මාර්ගය අනුගමනය කළයුතු වන්නේ මෙවන් ප්‍රශ්න වලට තාවකාලිකව පැලැස්තර දමා ලෞකිකත්වය යහපත් කරගැනීමට නම් නොවේ. කුමන හෝ ලෝකයක ජීවත් වුවද එතන ජීවත් වෙන්නේ ප්‍රශ්න රාශියක්ම උරුම කරගෙනම වේ. කවදා හෝ මරණය උරුම වේ. ජී+වත යනු දිරාපත් වන, ගෙවී විනාශ වී මරණය කරාම ගමන් කිරීම යන අර්ථයයි. මෙසේ ජරා ජීර්ණ තත්ත්වයට පත් වීමටත් මරණයෙන්ම කෙළවර වීමටත් හේතුව කෙළෙස් වලින් හිත දූෂණය වී මනස මුවහ වී කළු ධර්ම භාවිතයෙන් තව තවත් චිත්තසංථානය කිළිටි කර ගැනීමමයි. සියලු දුක්, සියලු ප්‍රශ්න නැති කිරීමේ ඒකායන මාර්ගය "ඤාණස්ස අධිගමාය - නිබ්බානස්ස සච්ඡිකිරියාය" යන පදවලින් ධර්මයේ පෙන්වා වදාළ රාගය, ද්වේෂය, මෝහය යන කිළිටි ගති සහමුළින්ම චිත්තසංථානයෙන් උදුරා ගළවා දමා ඉවත් කිරීමයි. බුද්ධ බවට පත්වීමද එයමයි. මෙහි ප්‍රායෝගික මාර්ග ප්‍රතිපදාව සතර සතිපට්ඨානයෙහි සිත පවත්වාගෙන කටයුතු කිරීමයි. තමා තමාවම තේරුම් ගෙන භාවිතා කළයුතු, අනුගමනය කළයුතු ක්‍රියාමාර්ගය සතර සතිපට්ඨාන භාවනාවයි.

* * * * * * * * * * *

# සෝතාපත්ති ඵලයට පත්වන්නට උපකාර වන යෝනිසෝමනසිකරණය හා නිවන් මග වසා දමන අයෝනිසෝමනසිකරණය

"චත්තාරෝ මේ භික්ඛවේ ධම්මා වඩ්ඪංති, සෝතාපත්ති අංගේ පරිපූරෙන්ති කතමේ චත්තාරෝ ධම්මා"

1. සප්පුරිස සංසේවෝ
2. සද්ධම්ම සවණං
3. යෝනිසෝමණසිකාරෝ
4. ධම්මානුධම්ම පටිපත්ති

ඉමේ බෝ භික්ඛවේ චත්තාරෝ ධම්මා වඩ්ඪති සෝතාපත්ති අංගේ පරිපූරෙන්ති, තින්නං සංයෝජනානං පහීයන්ති, සෝතාපත්ති ඵලං සච්ඡංකරෝති"

මෙහි සඳහන් කරන ලද්දේ සෝතාපත්ති ඵලයට පත්වීමට නම් යමෙකු විසින් සම්පූර්ණ කරගත යුතු සෝතාපත්ති අංග හතර පිළිබඳවයි. මේ ඉහත සඳහන් කරන ලද සෝතාපත්ති අංග හතරම සම්පූර්ණ කර ගැනීමෙන් මිස වෙනත් කිසිම ආකාරයකින් සෝතාපත්ති මාර්ගය සම්පූර්ණ කරගෙන සෝතාපත්ති ඵලයට පත්විය නොහැකිය.

සක්කාය දිට්ඨි, විචිකිච්චිතා, සීලබ්බතපරාමාස යන සංයෝජන තුන ප්‍රහාණය කිරීමද දිට්ඨි අනුසය, විචිකිච්චා අනුසය ප්‍රහාණය කිරීමද, දිට්ඨාසව ප්‍රහාණය කිරීමද, දස්සනේන සම්පන්න තත්ත්වයට පත්වීමද සිදුවන්නේ මේ සෝතාපත්ති අංගයන් හතරම සම්පූර්ණ කර ගැනීමෙනි.

සෝතාපත්ති අංගයන් අතරින් පළමුවැන්න වන සප්පුරිස සංසේවනය, කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය ලබා ගත හැකි වන්නේ අරිය උත්තමයෙකුගෙන්ම පමණි. ඒ අරිය ධර්මය අසා දැනගැනීමෙන් පරතෝඝෝෂක ප්‍රත්‍ය ලබා ගැනීමෙනි.

අරිය උත්තමයෙකු දේශණා කරනු ලබන අරිය ධර්මය ශ්‍රවණය කිරීමෙන් දෙවන පියවරද සම්පූර්ණ වෙයි. අරිය උත්තමයෙකු දේශණා කරන පටිච්චසමුප්පාද ධර්මය අසා දැන ගෙන "සෝතාවදානේ පඤ්ඤා සුතමයේ ඥාණය" ලැබීමෙන්ම මෙම සෝතාපත්ති අංගයද සම්පූර්ණ වෙයි.

සෝතාපත්ති ඵලයට පත්වීමේදී වඩාත්ම වැදගත් හා මූලිකම අවශ්‍යතාවය වන්නේ යෝනිසෝමනසිකරණීය ශක්තියයි. මෙය බාහිර පුද්ගලයෙකුගෙන් ලබාගත හැකි ආකාරයේ එකක් නොවේ. තමා තුළින්ම තමන්ම උපද්දවා ලබාගත යුතු තමන්ටම ලබාගත හැකි ශක්තියකි. කොතරම් බණ ඇසුවත් කොතරම් කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය ලැබුණත් තමන් යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන්නට නොදන්නේ නම් සෝතාපත්ති අංගයන් කිසිවක්ම සම්පූර්ණ නොවන බවද මතක තබාගත යුතුය. මිනිසෙකු ලෙසින් උපත ලබා මිනිස් ගුණධර්ම දියුණු කර ගැනීමම යෝනිසෝමනසිකරණ ශක්තිය වඩා වර්ධනය කර ගැනීමයි. මෙය ඉෂ්ට සිද්ධ කරගත හැකි වන්නේද මනුස්ස ප්‍රතිලාභයක් ලද

මේ අවස්ථාවේදීමය. ඒ යෝනිසෝමනසිකාරයෙන් ම ක්‍රියා කිරීමෙනි.

හතරවැනි අංගය වූ ධම්මානුධම්ම පටිපදාවෙහි යෙදීමට නම් කළ්‍යාණ මිත්‍රයෙකුගෙන් අසා දැනගත් සද්ධර්ම මාර්ගය යෝනිසෝමනසිකාරයෙන් යුක්තවම අනුගමනය කළ යුතුය. යෝනිසෝමනසිකාරය නැති කෙනෙකුට ධම්මානුධම්ම පටිපදාව අනුගමනය කිරීමද කළ නොහැකිය. මේ නිසා යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කිරීම සෝතාපත්ති අංග හතර අතරින් ඉතාමත්ම වැදගත් අංගයද වන්නේය.

ලොව්තුරා බුදුවරයෙකු ලොව පහළවන්නේද බුද්ධත්වයට පත්වී බුද්ධ ධර්මය ලෝකයාට දේශණා කරන්නේද දෙව් මිනිසුන්ට යෝනිසෝමණසිකරණය පිළිබඳව කරුණු පහදා මනසිකරණ ශක්තිය දියුණු කරගන්නට මඟ කියාදීම සඳහාමය. යෝනිසෝමනසිකාරය නොදන්නා මිනිසුන්ට යෝනිසෝමනසිකරණයෙන් යුක්තව ක්‍රියාකිරීමෙන් තමා තුළින්ම ලබාගත හැකි යහපත් ප්‍රතිඵල, ආදීනව ආනිසංස පෙන්වාදී ඔවුන් යහපත් මාර්ගයට යොමු කරවන්නටමය. අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකිරීමේ අයහපත් ඵලවිපාක පෙන්වා දී යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකිරීමෙන් ලබන යහපත් ඵල විපාක මිනිසුන්ට පෙන්වා දීමටය.

මේ අනුව බුදුන්වහන්සේ කෙනෙකුන් බුද්ධත්වයට පත්වීමෙන් පෘථග්ජන බොහෝ මිනිසුන්ටද යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කරන්නට අවශ්‍ය දැනුම හා නිවැරදි පිරිසිදු මාර්ගය අසා දැන තේරුම් ගන්නටත්, ඒ මාර්ගය අනුගමනය කර ධම්මානුධම්ම පටිපදාව සම්පූර්ණ කරගන්නටත් සෝතාපන්න ඵලයට පත් වී පෘථග්ජන තත්ත්වයෙන් මිදෙන්නටත් හැකිවන්නේය. මේ අනුව බුද්ධ ධර්මය අවශ්‍ය වන්නේත් අසාදැන ගත යුතු වන්නේත් තේරුම් ගෙන අනුගමනය කිරීම කළයුතු වන්නේත අයෝනිසෝ මනසිකාරයෙන් ක්‍රියාකිරීම අත්හැර යෝනිසෝමනසිකරණයෙන් ක්‍රියාකරන්නට පුරුදු පුහුණු වන්නටමය.

යෝනිසෝමනසිකරණයෙන් ක්‍රියා නොකරන්නා අයෝනිසෝමනසිකරණයෙන් ක්‍රියාකරන්නෙකි. මේ අනුව අයෝනිසෝමනසිකරණයෙන් ක්‍රියා කිරීම හෙවත් අමනසිකාරය යන්නෙහි අර්ථයද විග්‍රහ කර දැනගැනීම ඉතාමත්ම වැදගත්ය. අසතියෙන් කටයුතු කිරීම අමනසිකාරයෙන් ක්‍රියා කිරීම අභාවිත සිතකින් ක්‍රියා කිරීමද අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කරන කෙනෙකුගේ ලක්ෂණයන්මය. තම චිත්තසංථානයේ කෙළෙස් ගති, කිළිටි ගති, අඥාණ ගති ගබඩා වී පවතින කෙනෙකුට අයෝනිසෝමනසිකරණයෙන් මිස යෝනිසෝමනසිකරණයෙන් ක්‍රියාකළ නොහැකිය. රාග ගතිය, ද්වේෂ ගතිය, මෝහ ගතිය තම සිත තුළ මුල් බැසගෙන පවතින නිසාම කෙළෙස්, ආසව, අනුසය සිත තුළින්ම ක්‍රියාත්මක වී මනස මුවහ වී චිත්තසංථානය කිළිටි වීම නිසාම මනසිකරණ ශක්තියද වැසී මුවහ වී යයි. ආගන්තුක වශයෙන් බාහිර ලෝකයෙන් චිත්තසංථානය ඇතුළට වද්ද ගන්නා කෙළෙස් ගති නිතර නිතර පරිහරණය කරන්නට පුරුදු වූ කෙනෙකුට යෝනිසෝමනසිකරණ ශක්තියද නැති වී යයි. පව්කම්, දස අකුසලයන් ආදී ළාමක ධර්ම යම්කිසි කෙනෙක් අතින් ක්‍රියාත්මක වන්නේම හිතට වහල් වී, හැඟීමට වහල් වී අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කිරීමෙන්ය.

මෙම සංසාර රිය ගමන දිගින් දිගටම පවත්වාගෙන යාමට අවශ්‍ය සියලුම කරුණු තමන්ම සාදා සකස් කර ගන්නා හා අතීතයේදී සකස් කරගත් ඒවාමය. සංසාර ගැටළුව පිළිබඳව යථාපරිදි තේරුම් නොගත් පෘථග්ජන පුද්ගලයින්, අයෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන විට සංසාර ගැටළුවට තාවකාලිකව පිළියම් කරන්නේද, සංසාර ගැටළුව තුළින්ම තාවකාලික වෙනසක් ඇති කර ගැනීමෙනි.

දෙවි දේවතා පිහිට පැතීම, පුද පූජා පැවැත්වීම, බලි බිලි දීම, ශාන්ති කර්ම කිරීම, ආශිර්වාද පූජා පැවැත්වීම මෙන්ම යාග හෝම, යන්ත්‍ර මන්ත්‍ර කටයුතු කිරීම කරන්නේද මේ ලෞකිකත්වය තුළින්ම යම්කිසි වෙනසක්, සහනයක්, සුවයක් තාවකාලිකව ලබා ගැනීමේ ඒකායන අපේක්ෂාවෙනි. මේ ලබන ලෞකික සුවය තාවකාලික බවත්, ඒ තාවකාලික සුවය ලැබූ පසුව යළි යළිත් ඊටත් වඩා බලවත් සංසාර ගැටළුවකට තමන්ම මැදිවන බවත් තේරුම් නොගැනීම අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කිරීමකි. අවිද්‍යාව හා තණ්හාව යන ගති දෙකම යමෙකු තුළ පවතින්නේද යළි යළිත් ඒ ගතිම සිත තුළ උපත ලබන්නේද, යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන්නට නොදන්නා නිසාමය.

සංසාර ගැටළුව නිර්මාණය කරගන්නේත්, සංසාර රිය ගමන ඉදිරියටත් දිගින් දිගටම පවත්වා ගෙන යන්නේත් තමන්ම අවිද්‍යා සංඛාර ක්‍රියාත්මක කරන නිසාමය. අවිද්‍යා සංඛාර කිරීම හේතු කොටගෙන ලෝකය තුළ තමාම අතරමං වෙයි. මංමුළා වෙයි. නිවනට මඟ වැසී යයි. අවිද්‍යා සංඛාර කිරීමේ නියත ප්‍රතිඵලය තම සිත තුළ සමුදය බිහිවීමයි. සුගති ලෝකයක උපත ලබන්නට හේතුවන පුණ්‍යාභි සංඛාර හෝ නිරයේ, දුගතියේ උපත ලබන්නට උපකාර වන අපුණ්‍යාභි සංඛාර හෝ අසඤ්ඤ තලයන්හි උපත ලබන්නට හේතුවන, උපකාර වන අනෙඤ්ජාභි සංඛාර හෝ යන සංඛාර තුන් කොටසම අවිද්‍යා මූල සංඛාර ලෙසින් ධර්මයේ විග්‍රහ කර පෙන්වා දෙයි.

කාම ලෝක, දිව්‍ය ලෝක, මිනිස් ලෝකය යනාදී සියලු සුගති ලෝකවලද ජාති, ජරා, ව්‍යාධි, මරණ යන සියලුම දුක් පවතී. දුගතියේ, අපායේ ඇති දුක ගැන කිව යුතු නොවේ. අසඤ්ඤ තලයන්හිදී ඇත්තේද තාවකාලික සුවයකි. නැවත අපාගත වීමේ අවදානම, භය මේ සියලුම තලයන්හි පවතී. අපාගත වීමේ අවදානමෙන් සතර අපා බියෙන් සදහටම මිදෙන්නේ සෝතාපත්ති ඵලයට පත්වීමෙන්ම පමණි.

"ධම්මෝ සංදිට්ඨිකෝ" තත්ත්වයට පත් වූ පුද්ගලයාම සංසාර භය දකී. සංසාර ගැටළුවද දකී. "සං"උපත ලබන ආකාරය දක නොගත්, "සං" යන්න යථාපරිදි තේරුම් නොගත්, "සං" නිසා තම චිත්තසංථානය කිළිටි වන බව නොදත් පුද්ගලයා "ධම්මෝ සංදිට්ඨිකෝ" නොවූ අසංදිඨික, අසම්පඤ්ඤ, අමනසිකාරී, අසම්පජානකාරී, මොට්ඨස්ස පුද්ගලයෙකි. එසේනම් ධම්මෝ සංදිට්ඨිකෝ තත්ත්වයට පත් වූ පුද්ගලයා යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන්නට සමත් පුද්ගලයෙකි.

පරම පවිත්‍ර සිරි සද්ධර්මය අරිය උත්තමයෙකුගෙන්ම අසා දන පටිච්ච සමුප්පාද ධර්මය, හේතුඵල ධර්මය තමා තුළින්ම යෝනිසෝමනසිකරණීය ශක්තියෙන්ම අවබෝධ

කරගෙන, එයම අනුගමනය කිරීම ධම්මානුධම්ම පටිපදාවෙහි හැසිරීමයි.

ඇස, කන, නාසය, දිව, කය, මනස යන තමාගේම ඉන්ද්‍රියයන් රූප, ශබ්ද, ගඳ සුවඳ, රසය, සුව පහස හා ධම්ම යන බාහිර දේට පටිච්ච වීමේ නියත ප්‍රතිඵලය වන්නේ සමුදය ධර්ම බිහිවී (සංභව) විඤ්ඤාණ ශක්තියක් බිහිවී සංසාර රිය ගමන යන්නට අවශ්‍ය ශක්තිය දිගටම උත්පාදනය කර දීමයි. හැම පුද්ගලයෙක්ම පෘථග්ජනයෙකු යැයි කියන්නේ හිතට වහල් වී, හැඟීමට වහල් වී, ඇස, කන, නාසය, දිව, කය, මන ආදී තමන්ගේම ඉන්ද්‍රියයන් පිනවීමේ කැමැත්තෙන්, ආශාවෙන්, තණ්හාවෙන් කටයුතු කිරීමේ පුරුද්දක් ඇතිකරගත් හෙයිනි. මෙසේ සිතට වහල්වී, හැඟීමට වහල් වී ඉන්ද්‍රියයන් පිනවීමේ ක්‍රියාව නිසා තමන්ගේම චිත්තසංථානය කිළිටි වී මනස මොට්ට වී මෝහයෙන් මුළා වී අමනසිකරණයෙන් ක්‍රියාත්මක වන්නෙකු බවට තමන්ම පත්වෙන බව නොදන්නාකම අවිද්‍යාවයි. ධම්මෝ සංදිට්ඨිකෝ තත්ත්වයට පත් වූ පුද්ගලයාම එසේ පත්වීමෙන්ම සමුදය උපත ලැබීමෙන් තම මනස මොට්ට වී, මුවහ වී, අමනසිකරණ තත්ත්වයට තමන්ම පත්වන බවද තේරුම්ගත යුතුය.

ආමිස සුවයක්, සැපතක් සඳහා ඇස, කන, නාසය, දිව, කය, මන, යන තමන්ගේම ඉන්ද්‍රියයන් පිනවීමේ නොතිත් ආශාවෙන් ක්‍රියා කරන පුද්ගලයා සංසාර දෘෂ්ඨියෙන්ම ක්‍රියා කරන්නෙකි. ඔහු සම්මා දිට්ඨිය යනු කුමක්දැයි නොදන්නා කෙනෙකි. "ධම්මෝ සංදිට්ඨිකෝ" තත්ත්වය අවබෝධ කර නොගත් සං දැක නොගත් කෙනෙකි.

"අනිච්ච දේ නිච්ච"සේ දැකීම අයෝනිසෝමනසිකාරය නිසාම සිදුවෙයි. දුක්ඛ දේ, දුක බව නොදැක සුඛ සේ සැප සේ දකින්නේද අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන්නාය. අනත්ථ දේ අනත්ථ ලෙස දැක ගැනීමට නොහැකිව අත්ථ සේ දැක ගන්නේද අයෝනිසෝමනසිකරණයෙන් ක්‍රියා කරන්නාමය. මේ සංසාර ගැටළුව යළි යළිත් තමන්ම ප්‍රතිනිර්මාණය කර ගන්නේම යථාපරිදි ත්‍රිලක්ඛණය අවබෝධ කර නොගැනීමෙනි. අද නිවන් මග සොයමින් භාවනා කරන ගිහි පැවිදි බොහෝමයක් දෙනා ත්‍රිලක්ඛණය භාවනා කරන්නේ යථා අවබෝධයකින් තොරවය. ධර්මය නොදැනය. මෙයද අයෝනිසෝමනසිකරණය නිසාම සිදුවන විශාල හානියකි.

පෘථග්ජන පුද්ගලයා නිරතුරුවම ප්‍රිය මනාප දේ සමග ඇලෙයි. අප්‍රිය, අමනාප දේ සමග ගැටෙයි. ප්‍රිය යැයි මනාප යැයි තමන් තීරණය කළ දේ අල්ලා උපාදානය කරගනී. අප්‍රිය, අමනාප යැයි තීරණය කළදේ සමග වෛර කරයි. ක්‍රෝධ කරයි. මෙසේ ප්‍රිය දේට ඇලෙන්නේ හා අප්‍රිය දේ සමග ගැටෙන්නේ තමන්ම හුරු පුරුදු කරගත් ගති නිසා බව ඔහු නොදනී. අයෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන එවන් පුද්ගලයා සිතන්නේම මේ ප්‍රිය මනාප බව (ගතිය) ඇත්තේ බාහිර ලෝකයේ බවයි. අප්‍රිය, අමනාප, තරහා, වෛර ගති ඇත්තේද බාහිර පුද්ගලයන් ලග බවයි. තමන් ලග තමන් තුළ ඇති මේ කෙළෙස් ගති යථාපරිදි දැකගන්නට අසමත් පුද්ගලයා අයෝනිසෝමනසිකාරයෙන්ම ක්‍රියා කරන්නෙකි. ඔහු සිතන්නේම මේ ගති ඇත්තේ බාහිර ලෝකයේම බවයි. තමා ලග නොවන බවයි.

ප්‍රිය දේ සමග බැඳෙන, සම්බන්ධ වන හැම අවස්ථාවකදීමත් අප්‍රිය අමනාප දේ සමග ගැටෙන, වෛර කරන හැම අවස්ථාවකදීමත් ඒ පුද්ගලයාම සංසාරයට බැඳෙන

බැම්මක් යළි තමන්ම සකස් කරගන්නා බව ඔහු නොදනී. මේ අවිද්‍යාව, මෝහය, නොදන්නාකම නිසාම තමන් තමන්ටම කරගන්නා හානියකි. මේ ප්‍රිය මනාප දේ කොතරම් ප්‍රිය මනාප දෙයක් වුවද, මේ ප්‍රිය මනාප ගති ස්වභාවය මතු වූයේ තමන්ගේම සිතේ බවත්, මේ ප්‍රිය මනාප ගති ස්වභාවය බාහිර ලෝකයේ පවතින දෙයක් නොවන බවත් යථාපරිදි දැක ගැනීමට නොහැකි පුද්ගලයා අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකර, ප්‍රිය මනාප දේ උපාදානය කරගෙන සංසාර බැම්මට බැඳෙයි. ඒවාගේම අප්‍රිය අමිහිරි දේ සමඟ ගැටී අමනාප වන පුද්ගලයා සිතන්නේම මේ අප්‍රිය අමනාප ස්වභාවය ඇත්තේ තමාගේ සිත තුළ නොව බාහිර පුද්ගලයා සත්ත්වයා හෝ ධර්මතාවය තුළ බවයි. තම සිතේම හටගත් මේ වෛරී ස්වභාවය දැක ගැනීමට නොහැකි වූ අයෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන පුද්ගලයාද සංසාර බැම්මට යළි යළිත් බැඳෙයි.

මෙවන් කෙළෙස් ගති පවතින්නේත් උපත ලබන්නේත් තම චිත්තසංථානයේම බව යථාපරිදි තේරුම් ගැනීමට නොහැකි වූ මෙවන් කෙළෙස් ගතිවල "අනිච්ච බව, දුක්ඛ බව අනත්ථ බව" යථාපරිදි තේරුම්ගෙන ඒ ගති තම සිතින්ම ප්‍රහාණය කර දමන්නට නොදත් පුද්ගලයා අයෝනිසෝමනසිකාරයෙන්ම ක්‍රියා කරන්නෙකි. ඔහු සංසාර ගැටළුව නොකඩවාම යළි යළිත් තමන්ම නිර්මාණය කර ගන්නා කෙනෙකි. "යායං තණ්හා පොනොභවිකා" යනුවෙන් ධම්මචක්කපවත්වන සූත්‍රයේ දේශණා කර පෙන්වූ ධර්මතාවය මෙයයි.

එසේනම් දස සංයෝජනයන්ම සකස් කරගෙන සංසාර ගමනට නිරන්තරවම බැඳෙන්නේ, තමන්ගේම නොදැනුවත්කම (අවිද්‍යාව) හා තණ්හාව නිසාම බව තේරුම් ගත යුතුය. මේ අවිද්‍යාව හා තණ්හාව යන ගති මෙන්ම මානය, මිත්‍යා දෘෂ්ඨිය යන ගතිද ඇත්තේ තමන්ගේම චිත්තසංථානයේ බව සිතන්නට හෝ මෙනෙහි කරන්නට හෝ නොදත් පුද්ගලයා අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කරන්නා ලෙසින් ධර්මයේ හඳුන්වා දෙයි.

චතු අරිය සත්‍යයන්ම අවබෝධ කර ගැනීමට හැකිවන්නේද යෝනිසෝ මනසිකාරයෙන් කටයුතු කිරීමෙනි. චතු අරිය සත්‍යයන් අවබෝධ කර නොගත්, අස්සුතවත් පෘථග්ජන පුද්ගලයා දුප්පඤ්ඤස්ස, අඥාණ පුද්ගලයෙකි. මෙහි අදහස එවන් පුද්ගලයා යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කිරීම යනු කුමක්දැයි පවා නොසිතන, නොදන්නා කෙනෙකු වීමයි.

සතියෙහි පිහිටා, සතියෙන් යුතුව කටයුතු කරන පුද්ගලයා හේතුඵල දහමට බහා ගළපා බලා ක්‍රියා කරන කෙනෙකි. විනයට සසඳා බලා ක්‍රියා කරන්නෙකි. යෝනිසෝ මනසිකාරයෙන් කටයුතු කරන පුද්ගලයාට මෙවන් ගතිගුණ දක්ෂතා ඇත. අරිය පර්යේෂණයන් කරන පුද්ගලයා නිතරම හේතුඵල දහමට බහා ගළපා බලා කරන, කියන, හිතන සියලු දේ කරයි, කියයි, හිතයි. ඔහු අරිය මාර්ගය දනී. අනරිය මාර්ගයද දනී. අරිය මාර්ගය අනුගමනය කරයි. අනරිය මාර්ගය අත්හරියි.

මෙනෙහි කළ යුතු දේ යථාපරිදි දැන මෙනෙහි කරයි. මෙනෙහි නොකළ යුතු දේ

යථාපරිදි දැන මෙනෙහි නොකරයි. මෙවන් පුද්ගලයා "ද්වතා අනුස්සතියෙන්" යුතුව ක්‍රියාකරන යෝනිසෝමනසිකාරයෙන්ම කටයුතු කරන මග්ගේමග්ග ඥාණ දර්ශනය ලැබූ පුද්ගලයෙකි.

අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන පෘථග්ජන පුද්ගලයා කාම විතක්ක විචාර වලට ඇලෙයි, බැඳෙයි, ඒවාට මුළාවෙයි. ව්‍යාපාද විතක්කවලට ගැටෙයි. ඒවා නිසා තරහ, වෛරය තම සිත තුළම බිහි කර ගනී. විහිංසා විතක්ක විචාර පවත්වා තමන් පිළිබඳවම මානයක් ඇති කර ගනී. මෙසේ කාම විතක්ක විචාර, ව්‍යාපාද විතක්ක විචාර, විහිංසා විතක්ක විචාර පවත්වන්නට පුරුදු වූ, පුහුණු වූ පුද්ගලයාගේ සිතෙහි පවතින්නේ අකුසල් සිතිවිලිමය. ඔහු අතින් සිදුවන්නේම පාප කර්මයන්මය. මේ අනුව චිත්තසංථානය කිළිටි කරගෙන, මනස මොට්ට කරගෙන යළි යළිත් අයෝනිසෝමනසිකාරයෙන්ම ක්‍රියා කරන්නෙකු බවට පත්වෙයි. මෙය ගති පුරුද්දක් බවටද පත්වෙයි. ඔහු අතින් සීලය නොරැකෙයි.

යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන සුතවත් අරිය ශ්‍රාවකයා මීට හාත්පසින්ම වෙනස්ය. තම සිතට අරමුණු වන සියලුම අරමුණු කෙරෙහි මනා අවධානයෙන් සිට ("පරිමුඛං සතිං උපට්ඨපෙත්වා") සිතා බලා හේතුඵල ධර්මයට බහා ගළපා බලා අයහපත් කාම විතර්ක, ව්‍යාපාද විතර්ක, විහිංසා විතර්ක වෙන්කොට තෝරා බේරාගෙන, ඒවා සිතින් ප්‍රහාණය කර, ඉවත් කර දමන්නටත් (සතෝව පස්සසති) ඒවාගේම යහපත් අරමුණු වීතරාගී, වීතද්වේෂී, වීතමෝහී අරමුණු භාවිතා කරන්නටත් (සතෝව අස්සසති) දන්නා පුද්ගලයෙකි. මේ ආනාපාන සතියෙහි පිහිටා ක්‍රියා කිරීමේ මුල්ම පියවරයි. මේ ආකාරයට ක්‍රියා කරන ඔහුගේ සිතෙහි කෙළෙස් ප්‍රහාණය වී සිත පිරිසිදු වෙයි. මනසිකරණ ශක්තිය වැඩි දියුණු වෙයි.

යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන්නට දැනගත් මෙවන් අරිය ශ්‍රාවකයා "සංදිට්ඨිකෝ" තත්ත්වයට පත් වූවෙකි. "සං" දැනගත් කෙනෙකි. සංදිට්ඨිකෝ තත්ත්වයට පත් වූ පුද්ගලයා හිතට වහල් වී, හැඟීමට වහල් වී කටයුතු කිරීමෙන් ඉවත් වෙයි. ඒ නිසා "සම්මා දිට්ඨියට" පත් වූවෙක් ද වෙයි.

මේ අනුව තමන් අතින් සියලු පව්කම් හා අකුසල කර්මයන් සිදුවන්නේ යෝනිසෝ මනසිකාරයෙන් තොරව ක්‍රියා කිරීම නිසා බව ඔහු තේරුම් ගනී. මෙම දැක්ම සම්මා දිට්ඨියයි. කෙළෙස්වලින් අකුසලයෙන් මිදී නිදහස් විය යුතුය යන පිරිසිදු දැක්මයි.

යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන අරිය ශ්‍රාවකයා ස්වාර්ථය මෙන්ම පරාර්ථයද සළකා බලා ක්‍රියා කරයි. තමා කරන, කියන, හිතන දෙයෙහි ඵලවිපාක ලෙසින් තමාට සිදුවන යහපත හෝ අයහපත වාගේම අනුන්ට සිදුවන යහපත හෝ අයහපත ගැනද සළකා බලයි. තමන්ම සංසාරයේ අතරමං වන, මංමුළා වන අපාගත වන ක්‍රියා කිරීමෙන් වැළකී සිටින ඔහු අනුන්ව සංසාරයේ අතරමං කරවන, මංමුළා කරවන, අපාගත කරවන ක්‍රියාකාරකම්වලින් ද තමන්ටත්, අනුන්ටත් සංසාර බැම්වලින් මිදී නිදහස් විය හැකි දේම ක්‍රියාත්මක කරයි. තමනුත් මිදී අනෙකාවත් මුදවාලයි. දේව ආගම් සංකල්පවලට

අනුව පුද පූජා පවත්වමින්, ආශිර්වාද පූජා පවත්වමින් මේ පැවැත්ම, ලෞකික ජීවිතය, තාවකාලිකව සුවපත් කරන්නට, යහපත් කරන්නට, ලෞකික සැප සම්පත් උපාදානය කරගන්නට මිනිසුන් පොළඹවන ආකාරයේ ආගමික සංකල්පවලට මිනිසුන්ව බැඳ තබන්නට උපදෙස් දී මිනිසුන්ව සංසාරයේ අතරමං කරන්නාද අයෝනිසෝ මනසිකාරයෙන්ම ක්‍රියා කරන්නෙකි. මිනිසුන්ට තමන්ගේම මනස මෙහෙයවා මේ පැවැත්ම, ජීවත්වීම පිළිබඳව සත්‍යය ස්වභාවය හෙළි කරදී ඇති තතු යථාපරිදි අවබෝධ කරගන්නට සත්‍යය කියාදීම අරිය උත්තමයෙකුගේ වගකීමයි. මේ ලෞකික පැවැත්ම මොනයම් ආකාරයෙන් හෝ යහපත් එකක් ලෙසින් දිගටම පවත්වා ගන්නට දරණ සියලු උත්සාහයන් "අනිච්ච බව, දුක්ඛ බව, අනත්ථ බව" පෙන්වා දීම, යෝනිසෝ මනසිකාරයෙන් ක්‍රියාකරන බුද්ධ ශ්‍රාවකයෙකුගේ යුතුකමයි.

යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන පුද්ගලයා කුසලය, කුසලය ලෙසින් යථාපරිදි දැන හඳුනාගත් කෙනෙකි. අකුසලය, අකුසලය ලෙසින්ද යථාපරිදි හඳුනාගත් ඔහු කුසල හා අකුසලය අතර ඇති වෙනස මෙන්ම කුසලය හා පින අතර ඇති වෙනසත් හඳුනා ගනී. යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා නොකරන පුද්ගලයා පින්කමක් කරගැනීමේදී එයද සංසාර ගමන දික් කරගන්නා ආකාරයේ අකුසලයක් ලෙසින්ම උපාදානය කරගන්නටම ක්‍රියා කරයි. දෙව්, මිනිස් සැප සම්පත් පතමින් කැමැත්තෙන්ම කාම ලෝකවල අතරමං වන්නට පින්කම් කරන බොහෝ පින්වතුන් අදටත් අප අතරම දැක ගත හැකිය. ඒ අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කිරීමකි. යළි යළිත් සසර දුක්ම උරුම කර ගැනීම එහි නියත ප්‍රතිඵලය බව ඔහු කල්පනා නොකරයි.

තමන්ගේම මනීන්ද්‍රිය පිරිසිදු කරගෙන නුවණින් මෙනෙහි කර සිතට අරමුණු වන සියලු අරමුණු මැන බලා, පෙරා බලා පිරිසිදු කර, තෝරා බේරාගෙන, යහපත් අරමුණු පමණක්ම භාවිතා කිරීමත් අයහපත් කෙළෙස් සහිත අරමුණු භාවිතයට නොගෙන බැහැර කර, ප්‍රහාණය කිරීමත් (අස්ස පස්ස) යන දෙයාකාර වූ ක්‍රියාවලිය ක්‍රියාත්මක කරන්නට පුරුදු වූ පුද්ගලයා සතර සතිපට්ඨානයෙන්ම ක්‍රියාකරන පුද්ගලයෙකි. මෙම ද්වතා අනුස්සතිය තෝරා බේරා ගන්නට නොහැකිව ප්‍රාණ යාම යෝගී ක්‍රම අනුගමනය කරන්නාද අයෝනිසෝමනසිකාරයෙන්ම භාවනාවන්හි යෙදෙන්නෙකි. මේ අනුව භාවනාවද දෙයාකාරයකි. යෝනිසෝමනසිකාරයෙන් කරන අරිය භාවනාව හා අයෝනිසෝමනසිකාරයෙන් කරන අනරිය භාවනාව යනුවෙනි.

යෝනිසෝමනසිකාරය යන්න සාපේක්ෂ වශයෙන් ද සළකා බැලිය යුතුය. පෘථග්ජන පුද්ගලයෙක් හොඳ, යහපත්, නිවැරදි දිවිපෙවෙතක් පවත්වා ගැනීමට අවශ්‍ය සම්මතයෙන් යහපත් සමාජ සුචරිතයෙහි යෙදෙන්නේද යම්කිසි ආකාරයකින් යෝනිසෝමනසිකාරයෙන්ම ක්‍රියා කිරීම නිසාමය. එය ලෞකික පැවැත්ම යහපත් දේ දිගින් දිගටම පවත්වාගෙන යාමටත් අපායෙන් බේරී සුගතියට පවත්වන්නටත් උපකාරවන යෝනිසෝමනසිකරණය ශක්තියයි.

මාර්ග ඵලයන් ලබාගෙන නිවන් අවබෝධ කරගෙන ලෞකිකත්වයෙන් සදහටම මිදී ඉන් එතෙරවන්නට උපකාර වන්නා වූ ලෝකෝත්තර යෝනිසෝමනසිකාරය මීට

වෙනස් එකකි. මෙහිදී කෙළෙස් මුල් සමුච්ඡේදප්ප්‍රහාණයෙන්ම ගළවා ඉවත් කර දමා, චිත්තසංථානය පිරිසිදු කර ගන්නට උපකාරවන ලෝකෝත්තර මනසිකාරය වඩාත් බලවත් එකකි. මෙහිදී යෝනිසෝමනසිකාරය යන්න "සබ්බ පාපස්ස අකරණං කුසලස්ස උපසම්පදා" යන දෙයාකාරයෙන්ම තේරුම් ගෙන කරණීය ධර්ම, අකරණීය ධර්ම යන දෙකම ක්‍රියාත්මක කරන්නටත් උපකාරවන්නකි. සත්තිස් බෝධිපාක්ෂික ධර්මයන්ම සම්පූර්ණ කරගත හැකි වන්නේත් මෙවන් වූ ලෝකෝත්තර යෝනිසෝමනසිකරණ ශක්තියකින් ක්‍රියා කිරීමෙනි. සීල, සමාධි, ප්‍රඥා යන ත්‍රිශික්ඛාවම සම්පූර්ණ වන්නේත් ලෝකෝත්තර යෝනිසෝමනසිකාරයෙන් යුතුව ක්‍රියා කරන්නෙකු තුළ පමණි.

අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන පුද්ගලයා තුළ ලෝභ, ද්වේෂ, මෝහ ගති මෙන්ම මාන, දිට්ඨි, අවිද්‍යා යන ප්‍රපංච ධර්මයන්ද ක්‍රියාත්මක වන නිසා එවන් පුද්ගලයා ලෞකික දුකෙන් මිදී නිදහස් වන්නට තාවකාලිකව ක්‍රියාත්මක කරන බොහෝ ක්‍රියාකාරකම්වලින්ද සිදුවන්නේ තව තවත් පංචස්කන්ධයම උපාදානය කරගෙන සංසාරයට තව තවත් බැඳී ණය වී මාරයාට නැවත නැවත ණය වීමයි.

ලෞකිකත්වය තුළින්ම තාවකාලික සහනයක්, සුවයක්, විමුක්තියක් සොයන මෙවන් පෘථග්ජන පුද්ගලයා පුණ්‍යාභි සංඛාර කරමින් එයද උපාදානය කරගෙන කාම ලෝකවල අතරමං වෙයි. තවත් බොහෝ අය අනරිය භාවනාවන් වල යෙදීමෙන් ආනෙඤ්ජාභි සංඛාර කරමින්, අනරිය ධ්‍යානයන් ලබාගෙන අසඤ්ඤ තලයන්හි අතරමං වෙයි. මේ කොටස් දෙකම අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන පුද්ගලයන්ය. ඔවුන් සත්‍යය දැනගෙන ක්‍රියාකරන්නන් යයි සිතාගෙන ක්‍රියාකරන නමුත් තම තමන්ගේම නොදැනුවත්බව නොදන්නා අය වෙති. එවන් අය තම නොදැනුවත්කම නිසා තමන් සංසාරයේ අතරමං වීමට අමතරව තවත් බොහෝමයක් අනුගාමිකයින්වද සංසාරයේ කල්ප කාලාන්තරයක් අතරමං කරවීමට ක්‍රියා කරති. මෙයද අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කිරීමේ ප්‍රතිඵලයන්මය.

පුණ්‍යාභි සංඛාර, අපුණ්‍යාභි සංඛාර හා ආනෙඤ්ජාභි සංඛාර යන අවිද්‍යා මූල සංඛාරයන් මෙන්ම කුසලාභි සංඛාරයන් ගැනද දැන තේරුම් ගත් පුද්ගලයා කළයුතු දේ හා නොකළ යුතු දේ ගැනද තේරුම් ගත් කෙනෙකි. ඔහු නිතරම කුසලාභි සංඛාර කරමින් සසර ගමන නිමා කරන්නට උත්සාහ දරණ යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කරන්නෙකි. එවන් උත්තමයාම බාහිර ලෝකයාටද කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය ලබා දෙන්නටත් පරතෝඝෝෂක ප්‍රත්‍ය ලබාදෙන්නටත් සමත් කෙනෙකුම වෙයි.

කෙළෙස් නසා දමා මාර්ගඵල ලබාගත යුතු බව දේශණා කර පෙන්වා දුන්නත් ප්‍රායෝගිකවම කුසලාභි සංඛාරයන් පැවැත්වීම මගින් කෙළෙස් ප්‍රහාණය කරන ප්‍රායෝගික වැඩපිළිවෙළ ලෝකයාට ආදර්ශවත් ලෙසින්ම පෙන්වා දෙන්නට අසමත් නම් එතැනද යෝනිසෝමනසිකාරයෙන් යුක්තව ධර්මයෙහි හැසිරීමක් (චරේථ ධම්මෝ) නැත.

ලෞකිකත්වය තුළම තමන්ද අතරමං වන බාහිර ලෝකයාවද අතරමං කරවන පින්කම් කරන්නටම පමණක් ලෝකයාට උපදෙස් දීම පවිත්‍ර බුද්ධ ධර්මය නම් නොවේ.

ලෞකිකත්වයෙන් එතෙරවන්නට උපකාරවන කෙළෙස් මුල් ගළවා දමන්නට උපකාර වන බුද්ධ ධර්මයම ලෝකයාට දේශණා කර පහදා දිය යුතුයි. එය පරම පවිත්‍ර බුද්ධ ධර්මයයි.

මේ අනුව සෝතාපත්ති අංගයන් හතරම සම්පූර්ණ කරන්නට නම් ධම්මානුධම්ම පටිපදාවෙහි යෙදී ක්‍රියාකරන්නට නම් යෝනිසෝමනසිකාරයෙන්ම කටයුතු කරන්නෙකු වීම අනිවාර්යම සාධකයකි.

සම්මස්සන ඥාණයන්, සතර සම්මප්පධානයන්, සතර ඍද්ධිපාදයන් සම්පූර්ණ කරගෙන සතර සතිපට්ඨානයෙහි යෙදී සතර මඟ සතර ඵලයන් ලබා ගත හැකි වන්නේ යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන මිනිසෙකු බවට පත්වීමෙන්ම පමණි.

තමන් කොතරම් දුරට යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන පුද්ගලයෙක්ද? එසේ නැති නම් තමන් කටයුතු කරන්නේ අයෝනිසෝමනසිකාරයෙන්ද යන්න දැන් ඔබටම තීරණය කර ගන්නට මෙහි සඳහන් කරන ලද කරුණු සාවධානව සළකා සිතා බලන්න. දැන් ඔබේම යහපත සඳහා ඔබ ගැනම ඔබ කල්පනා කර මේ කරුණු එකින් එක සළකා බලා තීරණයක් ගත යුතුයි.

උපන් හැම සත්ත්වයාම සසර දුක් විඳීමට හා සංසාර දුක නිර්මාණය කරගන්නට මූලිකම හේතුව ඒ ඒ සත්ත්වයාම, පුද්ගලයාම අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන්නට පුරුදු වීමයි.

මිනිසෙකු ලෙසින් උපත ලැබූ ඔබට යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකර මනස පාවිච්චි කර සසර දුකෙන් සදහටම මිදී නිදහස් වන්නට උතුම් අවස්ථාවක් අද උදාවී ඇති බව සිතන්න. වෙන කාටවත්ම ඔබේ චිත්තසංථානය හෝ මනස කිළිටි කර කෙළෙස්වලින් පුරවා තිවන ආවරණය කරන්නට නොහැකිය. ඔබේ චිත්තසංථානය කිළිටි කර ගන්නේද, මනස මොට්ට කරගන්නේද ඔබමය. ඔබේ චිත්තසංථානය පිරිසිදු කරගෙන, මනස මුවහත් කරගෙන, කෙළෙස් බැමි කපා දමන්නට හැකි වන්නේද ඔබටමය.

මිනිසෙකු ලෙසින් මනුස්සයෙකු ලෙසින් උපත ලැබූ ඔබට දැන් ලැබී තිබෙන උරුමයෙන්ම ලැබුණු උසස්ම දේ මනීන්ද්‍රියයි. ඔබේ මනීන්ද්‍රිය පිරිසිදු කරගෙන මානසික ශක්තිය යෝනිසෝමනසිකරණ ශක්තිය බවට උපදවා ගත හැකි උතුම්ම ශක්තියයි. එය බුද්ධ ශක්තිය ලබන්නට උපකාර වන එකම ධර්මතාවයයි.

ඒ නිසා පිරිසිදු බුද්ධ ධර්මයම අසා දැන ධර්මයෙහි හැසිරෙන්න. සංසාරයේ අතරමං වන බොහෝමයක් දේව ආගමික සංකල්පවලින් බැහැර වන්න. එවිට ඔබටත් යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන්නට සුදුසු වාතාවරණයද සකස් කර ගත හැකි වෙනු ඇත.

"අයෝනිසෝ භික්ඛවේ, මනසිකරෝතෝ අනුප්පන්නෝ චා ආසවෝ උප්පජ්ජන්ති, උප්පන්නෝ චා ආසවෝ පවඩ්ඪන්ති යෝනිසෝ ඛෝ භික්ඛවේ මනසිකරෝතෝ

අනුප්පන්නෝ වා ආසවෝ න උප්පජ්ජන්ති, උප්පන්නෝ වා ආසවෝ පහීයන්තී”

මේ සබ්බාසව සංවර පරියාය සඳහා කළ දේශණාවයි.

* * * * * * * * * *

## මජ්ඣිමා පටිපදාව, අරිය අෂ්ටාංගික මාර්ගය හා චතු අරිය සච්ච

### මජ්ඣිමා පටිපදාව හා මැද මාවත

සමාජ දුක සංසාර දුක යනු කුමක්දැයි තේරුම් නොගෙන, තේරුම් ගන්නට අපොහොසත් වී, අනන්ත අප්‍රමාණ ආකාරයෙන් දුක් විඳිමින් අතරමං වූ ලෝක සත්ත්වයාට පරක් තෙරක් නොපෙනෙන සංසාර දුක් සාගරයෙන් මිදී නිදහස් වන්නට මඟ පෙන්වාදීම කළ්‍යාණ මිත්‍රයෙකුගේ පරම අභිලාෂයයි. පරම උත්සාහයයි. මෙවන් දුකකින් මිදී නිදහස් වන්නට උපකාර කරගත හැකි අනුගමනය කළ හැකි ධර්ම මාර්ගයක්, ප්‍රතිපත්ති සමුදායක් තම තමන්ටම අනුගමනය කළ හැකි බව මිනිසුන්ට පෙන්වාදීම, පැහැදිළි කරදීම කළ්‍යාණ මිත්‍රයෙකුගේම ක්‍රියාවකි. කළ්‍යාණ මිත්‍රයෙකු සේ ලොව්තුරා බුදුපියාණන්වහන්සේලා ලෝකයාට පෙන්වා දෙන දේශණාකර විග්‍රහකර දෙන නිවන් මාර්ගය නම් “මජ්ඣිමා පටිපදා තථාගතේන අභිසම්බුද්ධා” යනුවෙන් ධම්මචක්කපවත්තන සූත්‍රයේ පෙන්වා වදාළ නිවැරදි ප්‍රතිපත්ති මාර්ගයයි.

“මජ්ඣිමා” යන පද දෙකෙහි නිවැරදි ධර්ම අර්ථය, නිරුක්ති අර්ථය පළමු කොටම තේරුම් ගන්නට උත්සාහ කළ යුතුය, “මා” යනු එක පදයකි. “මජ්ඣි” යනු තවත් පදයකි. “මා” යන පදය බුද්ධ භාෂිතයේ මාගධී ශබ්ද සංඥාවල නිතර නිතර භාවිතා කළ වැදගත්ම පදයකි.“මා” යන පදයේ නිවැරදි ධර්ම අර්ථය අද පවතින පාරිභාෂික පාලි භාෂාවේ ශබ්ද මාලාවෙන් ගිලිහී ගොස් ඇත. මජ්ඣිමාගම සූත්‍ර ධර්ම මාලාවේ පළමුවැනි සූත්‍රය වන මූලපරියාය සූත්‍රයේ තරම් වෙනත් කිසිම තැනක ත්‍රිපිටකයේ “මා” විස්තර කර නැති බව පෙන්වා දිය හැකියි. “මඤ්ඤති” හෙවත් මමත්වය “මා මඤ්ඤති” යන තත්ත්වයට පත්කර ගෙන “න” මඤ්ඤති තත්ත්වයටම නිදහස් කර ගැනීමේ ප්‍රතිපත්ති මාලාව විග්‍රහ කිරීමක් මූලපරියාය සූත්‍රයේදී පෙන්වා දෙයි. මෙහි “මා” යන පදයෙන් අදහස් කළේ විග්‍රහ කළේ මමත්වයෙන්, මානයෙන් මිදී නිදහස් වීම යන අර්ථයයි. අංගුත්තර නිකායේ ඉතාමත් වැදගත් සූත්‍ර ධර්මයක් සේ සළකන “කාලාමා සූත්‍රයේත්” හැම තැනකම බුදුපියාණන් යොදාගත් පදයක් වූයේ “මා” යන පදයයි. ‘‘මා අනුස්සවේන, මා පරම්පරාය, මා ඉතිකිරාය, මා පිටකසම්පදානේන’’ ආදී වශයෙන් කෝසල ජනපදයේ කේසපුත්තවාසීන්ට දේශණාකර පෙන්වා වදාළේ “මා” යන පදය නැවත නැවතත් අවධාරණයෙන්ම යොදා ගැනීමෙනි. කේසපුත්ත වැසියනි යමක් අයහපත් අනරිය නොගැළපෙන දෙයක්යැයි තොපටම වැටහුනොත් එය සම්පූර්ණයෙන්ම අතහැර, ඉන් මිදී නිදහස් විය යුතුය. එය

පරම්පරාවෙන් හෝ උගතුන් විසින් හෝ ගුරු පරපුරෙන් හෝ  පිටක සම්ප්‍රදායෙන් හෝ ගෙන ආවාට පමණක් එය පිළිනොගත යුතුය.  ඒ නිසා මෙතැනද "මා" යන මාගධී ශබ්ද සංඥාවෙහි ධර්ම අර්ථය අතහැර මිදී නිදහස් විය යුතුය යන්නයි. "ඉමිනා පුඤ්ඤකම්මේන මා මේ බාල සමාගමෝ සතං සමාගමෝ හෝති" යනුවෙන් නිතර නිතර දිනපතා ගායනා කරනු ලබන ගාථාවෙහිද "මා" යන පදයෙන් අදහස් කරන්නේ බාල සමාගමෙන් මිදී නිදහස් වීම යන අර්ථයයි. මේ ආකාරයෙන් ත්‍රිපිටක ධර්මයේ තවත් බොහෝ ස්ථානවලත් "මා" යන පදය යොදාගෙන විස්තර කළේත් අර්ථ ගැන්වූයේත් අතහැර මිදී නිදහස් වීම " යන්නයි.

"මජ්ඣිමා" "සම්මා" යනුවෙන් බුද්ධ දේශණාවේ අෂ්ටාංගික මාර්ගයේ එන පදවැල් වලද "මා" යන පදය යොදාගෙන ඇත්තේ "මිදී නිදහස් වීම" යන අර්ථයෙන්මය. නිවන් අවබෝධ කරගන්නට උත්සාහ කරන යමෙකු, මේ පදවල එන ධර්ම අර්ථයම නිවැරදිවම තේරුම් ගත යුතුය. "මජ්ඣිමා" හා "මජ්ඣි" යන පදවල ධර්ම අර්ථය තේරුම් ගන්නට උත්සාහ ගත යුතුය. මජ්ඣිමා යනු මදය, මත්වීම යන අර්ථය දෙන්නකි. මෙතැන මජ්ඣි යනු තමන්ම එකතුකර සාදා සකස් කරගත් මදය, මත යන තේරුම ඇතිව භාවිතා කළ පදයකි. "සුරාමේරය මජ්ඣිපමාදට්ඨානා වේරමණී" යනුවෙන් පන්සිල්වල එන තැනද "මජ්ඣි" යනු "මදය", මත් යන අර්ථය ඇතිවම යොදාගෙන ඇත.

"මජ්ඣිමා" පටිපදා යනුවෙන් පෙන්වා වදාළ ප්‍රතිපත්ති මාර්ගයෙහි අතහැර මිදී නිදහස් විය යුතු මදයන් ලෙස රාග මදය, ද්වේෂ මදය, මෝහ මදය, විචිකිච්චා මදය, මාන මදය, අවිද්‍යා මදය හා සීලබ්බතපරාමාස මදය යන මදයන් හතම ඇතුළත්ය. මේ මද හතම සංසාර ගමනට නියත වශයෙන්ම උපකාරවන, දුකට මුල්වන ගති ලක්ෂණයන්ය. අත්ථකිලමතානුයෝගය, කාමසුඛල්ලිකාණුයෝගය යන අන්ත දෙක අතර ඇති හැම මැදක්ම සෑදී, සකස් වී ඇත්තේ මේ මදයන්ගේ සංකලනයෙනි. පෘථග්ජන ලෝකයා නිරතුරුවම මේ මැද සුවසේ, සැප සේ, ප්‍රියමනාප සේ දකින නිසාම සාරවත් යැයි නිගමනය කරගෙනම ඒවාට බැඳී සංසාර ගමන යයි. මෙසේ තමන්ම එකතු කර ගත් දේ නිසා මදයෙන් මත් වූ පෘථග්ජන ලෝකයාට තමන් මත් වූ බවක් පවා තේරුම් ගත නොහැකිය. ඒ මත් වූ ස්වභාවය සැපයක් සේම, සුවයක් සේම දකින නිසා නැවත නැවතත් එවන් සැප හඹා ගොස් සංසාරයේ අතරමං වෙති. සංසාරයට බැඳෙති.

මේ අන්ත දෙකම අල්ලා නොගෙන ඒ අතර මැදද අල්ලා නොගෙන පූර්ණ වශයෙන්ම මදයෙන් මිදී නිදහස් වීම නිවන් අවබෝධය බව පෙන්වා වදාළ තවත් බොහෝ තැන් ත්‍රිපිටකයේ ඇත.

"භාහිය දාරුචීරිය සූත්‍රයේ එන,

තථෝ ත්වං භාහිය, න තත්ව,
යථෝ ත්වං භාහිය න තත්ව,
තථෝ ත්වං භාහිය නෙවිධ, න හුරං
න උභයමන්තරේ ඒසෝවන්තෝ දුක්ඛස්ස"

යනුවෙන් පෙන්වා වදාළ තැන "නෙවිධ, න හුරං න උභයමන්තරේ" යනු ඒ අන්තයත් මේ අන්තයත් නිවන නොවන බවත්, මේ අන්ත දෙක අතර මැද (න උභය ම

අන්තරේ) කොතැනකවත් නිවන නොවන බවත් පැහැදිළිවම පෙන්වා දී ඇත. දුක් අවසන් කර නිවන් අවබෝධ කර ගැනීම නිදහස ලැබීම ඒ අන්තයේත් නැත. මේ අන්තයේත් නැත. මේ අන්ත දෙක අතර මැද කොතැනකවත් නැත. අන්ත දෙකෙන් මෙන්ම අන්ත දෙක අතර මැදින් පූර්ණ ලෙස මිදී නිදහස් වීම නිවන බව මෙතැනදී පැහැදිළිවම දේශණා කර වදාරා ඇත. "මා" යන පදයේ තේරුම අතහැර මිදී නිදහස්වීම බව මීට පෙරදී පෙන්වා දී ඇත. "මජ්ඣිමා" යනුවෙන් දේශණා කළ ප්‍රතිපදාව විස්තර කර දුන්නේද "සම්මා අංග අටකින් " මිදී නිදහස් වීම ලෙසයි. (සං+මා=සම්මා) "සං" එකතු කරගත් ගති ලක්ෂණයයි. ලෝභ - අලෝභ, ද්වේෂ - අද්වේෂ, මෝහ - අමෝහ ගති ලක්ෂණවලින් මිදී ඒවා අත්හැර නිදහස් වීම (සං+මා) යන පදයෙන් විස්තර කර දුන් සේක. මෙතැනද අන්ත දෙකම තේරුම් ගත යුතුය. ලෝභ, අලෝභ අන්ත දෙකකි. ද්වේෂ, අද්වේෂ අන්ත දෙකකි. මෝහ, අමෝහ අන්ත දෙකකි. ද්වේෂය අත්හැර අද්වේෂය අත්නොහැරියේ නම් එතැනදී වන්නේද ලෝකය අල්ලා ගැනීමකි. මේ දෙකෙළවරම අතහැර අතර මැද තත්ත්වයන් සියල්ලමද අතහැරීම නිවන් අවබෝධ කර ගැනීමයි. "සං+මා" මජ්ඣිමා පටිපදාවයි.

සංයුක්ත නිකායේ මහාවග්ග සංයුක්තයේ මග්ග සංයුක්තය, බොජ්ඣංග සංයුක්තය ආදී වශයෙන් "සං" විග්‍රහ කර පෙන්වා වදාළේ මත් වීමෙන් මිදී ''සං'' වලින් මිදී නිදහස් වීමට අනුගමනය කළයුතු නිවැරදි මඟ පෙන්වා දීමයි. "සං" යනු කුමක්ද? "සං" වලින් මිදී නිදහස් වන්නේ කෙසේද? යන්න සංදේශණාවක් අසා නිවැරදිවම තේරුම්ගත් කෙනෙකුට පමණක් නිවන් මගද විවෘත වෙනු ඇත. මැදට වී, මදයෙන් මත්වී, මදයම රස විඳිමින් සිටින තාක්කල් සංසාර ගමනක් යනු මිස නිවනක් නම් නැත.

මජ්ඣිමා සම්මා ආදී වචනවලින් බුදුපියාණන් පෙන්වා වදාළ නිවන් මාර්ගය නිවැරදිවම තේරුම් ගන්නට නම් මජ්ඣිමාගම සූත්‍ර ධර්මයක් වන "මහාචත්තාරීසක" සූත්‍රය කියවා එහි එන ධර්ම අර්ථයම තේරුම් ගත යුතුය. සම්මා අංග අටක් වන අෂ්ටාංගික මාර්ගයේද තිපරිවට්ටයක් ඇත. මේ තිපරිවට්ටයම නිවැරදිව තේරුම් ගැනීම නිවන් අවබෝධය ලැබීමයි. ඒ තිපරිවට්ටය නම්,

1. මිච්ඡා දිට්ඨිං මිච්ඡාදිට්ඨීති පජානාති
2. සම්මා දිට්ඨිං සම්මා දිට්ඨීති පජානාති
3. සම්මා දිට්ඨිම්පහං භික්ඛවේ ද්වයං වදාමි

i. අත්ථි භික්ඛවේ සම්මා දිට්ඨි සාසවා පුඤ්ඤභාගියා උපධිවිපක්කා

ii. අත්ථි භික්ඛවේ සම්මා දිට්ඨි අරියා අනාසවා ලෝකුත්තරා මග්ගංගා

මිත්‍යා දෘෂ්ඨිය, මිත්‍යා දෘෂ්ඨිය ලෙසින් පිරිසිඳ දැන ගත යුතුය. සම්මා දෘෂ්ඨියෙහි කොටස් දෙකම එනම් ලෞකික සම්මා දිට්ඨිය හා ලෝකෝත්තර සම්මා දිට්ඨිය නිවැරදිවම තෝරා බේරාගෙන පිරිසිඳ දැනගත යුතුයි.

උතුම් බුද්ධ ධර්මයේ විග්‍රහ කර පෙන්වා වදාළ පටිච්චසමුප්පාද ධර්මයේ එන තිපරිවට්ටය තේරුම් ගැනීමට නොහැකි ලෙසම අද ධර්මය විකෘත වී ගොස් ඇති නිසා "සං" උපදින සමුදය ධර්මය පිළිබඳව හෝ සංදේශණාව හෝ අද ශ්‍රවණය කරන්නට නොලැබෙන හෙයින් ලෞකික හා ලෝකෝත්තර සම්මා අංගවල ඇති වෙනස්කම්ද

මිනිසෙකුට තේරුම් ගැනීම කිසිසේත්ම පහසු නොවේ.

"ද්වතාව" නම් උතුම් බුද්ධ ධර්මයද අද සහමුළින්ම යටපත්ව අභාවයට ගොස් ඇත. ද්වතාව ධර්මය යැයි බුද්ධ ධර්මයේ දේශණා කර පෙන්වා වදාළ ධර්මයක් ඇති බව හෝ අසා ඇති දන්නා අයද අද ඉතාම විරළය. ද්වතාව, දෙපැත්ත නොදන විපස්සනා, අනුපස්සනා කරනු නොහැකිය. විපස්සනා, අනුපස්සනා නොකර සම්මා දිට්ඨියේ සම්මා දිට්ඨිය දකගනු නොහැකිය.

අද ව්‍යවහාරික අර්ථයෙන් සම්මා දිට්ඨිය යනුවෙන් හඳුන්වා දෙන්නේ හොඳ යහපත් නිවැරදි දක්මකි. එය ආගම් සංකල්පයකි. ආගම් සංකල්පයකින් දකින්නේ ලෞකිකත්වය තුළින්ම දකගත් හොඳ යහපත් නිවැරදි දෙයක් මිස ඒ ලෞකිකත්වය අභිභවා ගිය ලෝකෝත්තර නිවන ඉලක්ක කරගත් නිවන සඳහා මග පෙන්වා දෙන අතහැර මිදී නිදහස් වීමේ සම්මා මාර්ගය පෙන්වාදීම නොවේ. ඒ නිවන් මග නිවැරදිවම ඇත්තේ බුද්ධ ධර්මයෙහිම පමණකි. ආගම්වල එය දක්නට නැත.

උතුම් බුද්ධ ධර්මය අසා දන තේරුම් ගෙන අනුගමනය කර අත්විඳගත යුතු අර්ථාන්විත ප්‍රතිපත්ති මාර්ගයකි. මිනිසෙකුටම තේරුම් ගතහැකි සරළ, සුගම, පරම පවිත්‍ර බුද්ධ ධර්මය අද සංකීර්ණ වී තේරුම් ගත නොහැකි වී අනුගමනය කර අත්විඳ ගන්නට නොහැකි තත්ත්වයටම පත්වීම නිවන් මග වැසී යාමයි. නිවැරදි බුද්ධ ධර්මය අසාදන, අනුගමනය කළොත් ප්‍රතිපත්ති පූරණය කිරීමත් සමගම පුදුම ආකාරයේ අධ්‍යාත්මික, අභ්‍යන්තර නිවීමක්, සුවයක්, නිදහස් වීමක්, සංසිඳීමක් තම තමන්ටම අත්විඳගත හැකිවෙයි. ඒ ධර්ම රසය අත්විඳ ගැනීමයි.

බුද්ධ ධර්ම මාර්ගයේ පෙන්වා වදාළ ප්‍රතිපත්ති පිරීමත් සමගම ලබන නිරාමිස, අනාසව සුවය අත්විඳගත් කෙනෙකුට ධර්ම මාර්ගය අනුගමනය කිරීම තරම් සුවයක්, සැපයක් වෙනත් කිසිම ලෞකික දෙයක් උපාදානය කරගැනීමෙන් ලබා ගත නොහැකි බව ප්‍රත්‍යක්ෂ කර දනගනී. මෙය යථාභූත ඥාණ දර්ශනය ලැබීමයි.

"සම්මා දිට්ඨිය", දකීම යනු ධම්මෝ සංදිට්ඨිකෝ වීමයි. ඒ නිසා සම්මා දිට්ඨියම පුබ්බංගමය, මූලිකය, පළමු කොටම දකගත යුතු දේය. දිට්ඨිය යනු දනීම මුල්කර ගත් දකීමයි. මිච්ඡා දිට්ඨිය යනු අනර්ථකර, අහිතකර, කුණු එකතු කරන ක්‍රියාවට කැමැත්තෙන්ම බැඳෙන දකීමයි. ලෞකික සම්මා දිට්ඨිය යනු හිතකර, යහපත් හොඳ දේ එකතු කරන ක්‍රියාවලට කැමැත්තෙන්ම බැඳීමයි. ලෝකෝත්තර සම්මා දිට්ඨිය යනු එකතු කරගත් හොඳ, නරක, හිතකර, අහිතකර සියල්ලම කැමැති සේ පැවැත්විය නොහැකි බවත්, ඒවා ලෞකිකත්වය තුළම ඇති මායාවන්, මිත්‍යාවන් බවත් තේරුම් ගෙන මේ දෙකෙන්ම මිදී නිදහස් වීමයි. අෂ්ටාංගික මාර්ගයේ එන මේ තිපරිවට්ටයම පිරිසිඳ දනගත් කෙනෙකුට මිස වෙනත් කිසි කෙනෙකුට චතු අරිය සත්‍යයන් අවබෝධ වන්නේද නැත.

බුද්ධ ධර්මයේ "සුනාථ" යනු අසාගෙන සිට ශබ්ද රසය විඳීම පමණක්ම නොවේ. මනස යොමුකර සාවධානව අසාගෙන, ශබ්ද රසය මෙන්ම අර්ථ රසයත්, ධර්ම රසයත්

විඳීමයි. ඊළඟ පියවර වූ "ධාරේථ" යන තත්ත්වයට පත්වන්නට නම් මෙහි ධර්ම රසයම මෙනෙහි කළ යුතුමය. ධර්මය අනුගමනය කර අත්විඳගන්නට හැකි වන්නේ මෙය නිවැරදිවම දැනගෙන ක්‍රියා කළහොත් පමණි.

අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාන අසා දැන, බුද්ධ ධර්මය තේරුම් ගෙන එය අනුගමනය කරන්නට වීමත් සමගම පුදුම ආකාරයේ අධ්‍යාත්මික සුවයක්, නිවීමක්, නිදහසක්, සංසිඳීමක් තමා තුළින්ම තමාටම අත්විඳගන්නට හැකියාව ලැබෙනු ඇත. මෙය ඉවසීමෙන් අත්හදා බලා ඔබම මේ සුවය අත් විඳගන්න.

අද බුද්ධාගමේ උගත් ගිහි පැවිදි දෙපක්ෂයම බහුලවම විග්‍රහ කරණු ලබන සම්මා දිට්ඨියේ පටන් සම්මා සමාධිය දක්වා එන සම්මා අංග අටම නිවන් මඟ නොවන අතර එය යහපත් නිවැරදි සංසාර පැවැත්මක් දිගින් දිගටම පවත්වා ගෙන සංසාර ගමන යාමට නම් උපකාර වන බව හැම බෞද්ධයෙකුම නිවැරදිවම තේරුම් ගත යුතුය. ලෞකික සම්මා දිට්ඨිය වැදගත් නැතැයි කිසිසේත්ම මෙයින් අදහස් නොකෙරේ. ලෞකික සම්මා දිට්ඨියට පැමිණ එහි අතරමං වූවොත් හෝ ඉන් ඔබ්බට ගොස් ලෝකෝත්තර සම්මා දිට්ඨියේ පටන් ඇති සම්මා අංගයන් සම්පූර්ණ කර නොගත්තේ නම් හෝ නිවනක් නැති බව නම් අවධාරණයෙන්ම නැවතත් ප්‍රකාශ කරමි.

## අරිය අෂ්ටාංගික මාර්ගය

නිවන පූර්ණ කරගැනීම සඳහා මිනිසෙකු විසින් අනුගමනය කළ යුතු නිවන් මඟ විස්තර කිරීමේදී ඉදිරිපත් කරන ලද සත්තිස් බෝධිපාක්ෂික ධර්මයන් අතුරින් අරිය අෂ්ටාංගික මාර්ගය ඉතාම වැදගත් අංගයයි. සංයුක්ත නිකායේ, මග්ග සංයුක්තයේ පෙන්වා වදාළේ මෙම අරිය අෂ්ටාංගික මාර්ගය පූරණය කර ගැනීමට උපකාරවන ප්‍රතිපදාවයි. මජ්ඣිම නිකායේ සම්මා දිට්ඨි සූත්‍රයේත්, අෂ්ටාංගික මාර්ගයේ මුල්ම අංගය වූ සම්මා දිට්ඨියට පත්විය හැකි නිවැරදි මාර්ගය චතු අරිය සත්‍යාවබෝධයම ලැබීම බව විවිධ ආකාරයෙන් පෙන්වා වදාරා ඇත. මීට අමතරව ත්‍රිපිටකයේ එන සූත්‍ර ධර්ම 600ක පමණම විග්‍රහ කර වදාළේ අරිය අෂ්ටාංගික මාර්ගයේ ඇති වැදගත්කමයි. මජ්ඣිම නිකායේ එන මහාචත්තාරීසක සූත්‍ර දේශණාවේ තරම් පිරිසිදුවත්, පැහැදිළිවත්, විස්තර සහිතවත් ලෝකෝත්තර අරිය අෂ්ටාංගික මාර්ගය පෙන්වා වදාළ වෙනත් තැනක් මුළු ත්‍රිපිටකයේම නැත.

බුදුපියාණන්වහන්සේ දේශණාකර වදාළ අරිය අෂ්ටාංගික මාර්ගයේ සම්මා දිට්ඨිය නමැති පළමුවන අංගය නිවැරදි ලෙසත්, පූර්ණ ලෙසත් පිරිසිඳ දැනගත් පුද්ගලයා සම්මා දිට්ඨියේ, සම්මා දිට්ඨිය තේරුම් ගත් අරිය පුද්ගලයෙකු වන බව සංයුක්ත නිකායේ පැහැදිළිවම පෙන්වා දී ඇත. මේ අනුව කොපමණ වෙහෙස දරා හෝ මහන්සි වී හෝ කෙනෙකු උත්සාහ ගත යුත්තේ බුදුපියාණන් දේශණා කරන ලද අරිය සම්මා දිට්ඨිය නිවැරදි ලෙස දැක ගැනීමටය. අරිය සම්මා දිට්ඨිය අවබෝධ කරගන්නට නොහැකිවීමේ එකම හේතුව නිසාම පෘථග්ජන ලෝකයා සංසාර දෘෂ්ඨියට යටවී, සංසාර දෘෂ්ඨියෙන් මත්වී, දහදුක් විඳිමින් සංසාර ගමනක යෙදී සිටිති. මිනිසෙකු ලෙස උපත ලබා උරුමයෙන්

ලැබූ මනස දියුණු කරගෙන, කල්පනා කර, මේ පැවැත්ම, ජීවත්වීම පිළිබඳව සත්‍යාවබෝධයක් ලබාගන්නා තෙක්ම මේ සංසාර ගමනෙහි යම්කිසි සාරවත් බවක්ම දකී.

"සං" යනු  එකතු කිරීම, උපාදානය කරගැනීම, රැස්කිරීම යන තේරුම දෙන පදයකි. කුරා කුහුඹියාගේ පටන් මහා බ්‍රහ්මයා දක්වාම ඇති සියලුම ප්‍රාණීන්, සත්ත්වයන් තම මුළු ජීවිත කාලය තුළදීම නිරත වන්නේ යමක් එකතු කර අල්ලා උපාදානය කර ගැනීමේ ක්‍රියාවලියකයි. මේ එකතු කිරීමේ ක්‍රියාවලියේ ඇතිවීමක් සීමාවක් තෘප්තිමත් වීමක්ද නැත. එසේ එකතු කරගන්නේද වටිනවා, සාරයි යනුවෙන් නිගමනය කරන දේමය. මේ එකතු කිරීමේ නියත රටාව, ක්‍රියාවලිය දැක ගත හැකි නම් ඒ පුද්ගලයා "සං" දැකගත් "සංදිට්ඨිකෝ" යන තත්ත්වයට පත් වූ කෙනෙකි. මේ එකතු කරගත්, උපාදානය කරගත්, රැස්කර ගත් දේ සියල්ලම කුණු ගොඩක්, නිසරු දෙයක්, සංසාර බරක් බව නිවැරදිවම තේරුම් ගත් පුද්ගලයා සම්මා දිට්ඨියද තේරුම් ගත් කෙනෙකි. එකතු කරගත් දෙයින්, එකතු කරගත් කුණු ගොඩෙන් හැකි පමණ ඉක්මනින් බැහැර වී, කුණු ඉවත් කර, ඉන් මිදී නිදහස් විය යුතු බව දැන ගත්, තේරුම්ගත් තැනැත්තා, සම්මා දිට්ඨියේ අරිය සම්මා දිට්ඨියම තේරුම් ගත් කෙනෙකි.

මේ ආකාරයෙන් පංචස්කන්ධ කොටස් අතරින් ප්‍රිය මධුර කොටස් එකතු කිරීමත් එසේ එකතු කරගත් කොටස් උපාදානය කර රැස්කර ගැනීමත්, ඒවා ගබඩාකර තැන්පත් කර ගැනීමත්, ඒවා භාවිතයට ගෙන ආහාරයට ගෙන විඤ්ඤාණය ජීවත්වීමත් යන කරුණු පිළිබඳව දැන සංසාර දුකට හා සංසාර ගමනටද සමාජ දුකටද මුල්වන හේතුව මේ එකතු කිරීමම බවද යථාපරිදි දැන තේරුම් ගැනීම ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත්වීමයි. අලුතෙන් කුණු එකතු කිරීම නවත්වා, අතීතයේ එකතුකර මතු ප්‍රයෝජනය සඳහා ගබඩා කර තබාගත් කුණු සියල්ලද ප්‍රහාණය කර, අස් කර දමා ඉන් මිදී නිදහස් විය යුතු යැයි දැකීම සම්මා දිට්ඨියේ පිහිටීමයි. ලෝකෝත්තර සම්මා දිට්ඨිය යනු අතීත සංසාරයේදී එකතු කරගත් සියලු දෘෂ්ඨීන්ගෙන්ද මිදී නිදහස් වීමයි.

චේතෝ විමුක්තිය, විද්‍යා විමුක්තිය හා ප්‍රඥා විමුක්තිය ලබන්නට නම් සියලුම දෘෂ්ඨීන්ගෙන් මිදී නිදහස් වීම අවශ්‍යම දෙයකි. මහාචත්තාරීසක සූත්‍ර දේශණාවේ සඳහන් කරුණු එකින් එක ගෙන විග්‍රහ කර බලා මිත්‍යා දෘෂ්ඨියෙන්ද මිදීමත් ලෞකික සම්මා දෘෂ්ඨියට පත්වීමත් ලෞකික සම්මා දිට්ඨියෙන්ද මිදී ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත්වීමත් සඳහා අනුගමනය කළයුතු මාර්ගය නිවැරදිවම තේරුම් ගත යුතුව ඇත.

"අරියං වො භික්ඛවේ, සම්මාසමාධිං දෙසිස්සාමි සඋපනිසං සපරික්ඛාරං තං සුණාථ, සාධුකං මනසිකරෝථ, භාසිස්සාමීති.

කථමෝච භික්ඛවේ, අරියෝ සම්මාසමාධි සඋපනිසෝ සපරික්ඛාරෝ සෙය්‍යථිදං සම්මාදිට්ඨි, සම්මාසංකප්පෝ, සම්මාවාචා, සම්මාකම්මන්තෝ, සම්මාආජීවෝ, සම්මා වායාමෝ, සම්මාසති යා බෝ භික්ඛවේ ඉමෙහි සත්තහංගේහි චිත්තස්ස ඒකග්ගතා පරික්ඛතා. අයං වුච්චති භික්ඛවේ අරියෝ සම්මාසමාධි සඋපනිසෝ ඉතිපි, සපරික්ඛාරෝ ඉතිපි"

මෙහි තේරුම ඃ "මහණෙනි අරිය සම්මා සමාධිය යනු කවරක් දැයි දේශණා කරමි.

උතුම් බුද්ධ සාසනයේ මගඵල ලබා අරිය සම්මා සමාධිය පූර්ණ කරන්නට නම් යෝනිසෝමනසිකාරයෙන් යුතුව මේ ධර්මය අසා, පිරිසිඳ දැන මේ මග උපනිශ්‍රය කරගෙන තම තමන්ම මේ මග අත්විඳ ගන්නටම උත්සාහ කළ යුතුය. සම්මා සමාධිය ලබා ගැනීම පරමාර්ථය කොට ගෙනම සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති යන පූර්වාංග හතම තේරුම් ගෙන සිතෙහි ඒකාග්‍ගතාව ඇති කර ගත යුතුයි. ඒකාග්‍ගතාව යනු එකම අග්‍රවූ තත්ත්වය වන නිවන පූර්ණ කර ගැනීමයි".

"තත්‍ර භික්ඛවේ, සම්මාදිට්ඨි පුබ්බංගමා හෝති
කතඤ්ච භික්ඛවේ සම්මාදිට්ඨි පුබ්බංගමා හෝති
මිච්ඡාදිට්ඨිං මිච්ඡාදිට්ඨීති පජානාති,
සම්මාදිට්ඨිං සම්මා දිට්ඨීති පජානාති සාස්ස හෝති පජානාති"

"මහණෙනි, සම්මා දිට්ඨිය සියල්ලටම මූලිකය. සියල්ලටම පෙරගමන්කරුය. සම්මා දිට්ඨියට පත්වීම පළමුවන පියවරයි. මෙහිදී සම්මා දිට්ඨියට පත්වන්නට නම් මිත්‍යා දෘෂ්ඨිය පිළිබඳව පූර්ණ ලෙසින්ම දැන මිත්‍යා දෘෂ්ඨියට පත්වන්නට හේතූන් දැනගත යුතුය. මිත්‍යා දෘෂ්ඨියෙන් මිදීමෙන්ම සම්මා දිට්ඨියට පත්වේ. මෙහිදී දෘෂ්ඨිය යනු දැකීමයි. මිත්‍යා දෘෂ්ඨිය යනු අවිද්‍යාවෙන්, තණ්හාවෙන් මානයෙන් වැසුනු රාග, ද්වේෂ, මෝහ සහිත සිතකින් ලෝකය දෙස බැලීමයි. රාගයෙන් ලොව දෙස බලන කෙනෙකුට ලෝකයට ඇලෙන්නට, ලෝකය අයිතිකර, උපාදානය කරගන්නට බලවත් තෘෂ්ණාවෙන්, අභිජ්ජාවෙන්ම ක්‍රියා කරයි. මේ නිසා සියලු ආකාර වූ වෛර, ද්වේෂ, පටිස ගති ගුණද ඒ පුද්ගලයා තුළම පහළ වෙයි. ඔහු ඵල විපාක ගැන නොදනී. ඵල විපාක ඇතැයි නොසිතයි. පරලොවක් ඇතැයි නොසිතයි. මවුපිය, වැඩිහිටියන් වැනි ගරුකළ යුතු, සැළකිය යුතු අයට ගරු කිරීම, සැළකීම අවශ්‍ය නැතැයි සිතයි. ඕපපාතික සත්ත්ව කොටස්, දෙවි දේවතාවන් වැන්නන් ඇතැයි නොසිතයි. මහණ ශ්‍රමණ උතුමන්ගේ කීම පිළිනොගනී. මෙවන් අය සමාජ සම්මතයටද සදාචාරයටද නොගැළපෙන ලෙසින් පව් පින් හෝ නොසළකා තම ප්‍රයෝජන තකා පමණක් ක්‍රියා කරති. මෙවැන්නන් මිත්‍යා දෘෂ්ඨිකයෝය.

මිත්‍යා දෘෂ්ඨිය පාපයක් බව, වරදක් බව, සමාජ සම්මත නොවන බව හා සංවරත්වයට නොගැළපෙන බව තේරුම්ගත් අසා දැනගත් පුද්ගලයා ලෞකික සම්මා දිට්ඨියෙහි පිහිටා කටයුතු කරන යහපත්, හොඳ, නිවැරදි පුද්ගලයෙකි. මිත්‍යා දෘෂ්ඨික වී, අපායට යන බව තේරුම්ගත් දුක් විඳින්නට, දුක් උරුමවන්නට එය හේතුවන බව දැක ඉන් මිදී දෙව්ලොව යන්නට, මිනිස් ලොව උපත ලබා සැප සම්පත් විඳින්නට පාපයෙන් වැළකී, වරදින් වැළකී සම්මතයේ පිහිටා ක්‍රියා කිරීම සත්පුරුෂයෙකුගේ ලක්ෂණ බව දැන ක්‍රියා කරයි. එය ලෞකික සම්මා දිට්ඨියේ පිහිටා ක්‍රියා කිරීමයි. සම්මා දිට්ඨිය යන්න මේ ආකාරයෙන් තේරුම් ගත් පුද්ගලයා අනෙකුත් සම්මා අංගයන්ද ඊට අනුරූපවම දැන ගන්නා නිසා ඊට වෙනස් ලෝකෝත්තර අරිය සම්මා දිට්ඨියකට පත්වීමක් පිළිබඳව නොදනී. ලෞකික සම්මා දිට්ඨි පුබ්බංගම නිසා ඊට අනුරූපව සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති යන අංගයන් ද සම්මා සමාධියෙහිද පිහිටයි. ඒ ලෞකික සමාධියකි. අරිය සමාධියක් නොවේ. මේ නිසා මිත්‍යා

දෘෂ්ඨියෙන් මිදී, ලෞකික සම්මා දිට්ඨියට පත්වීම පළමුවන පියවරයි.

"කථමා ච භික්ඛවේ සම්මාදිට්ඨි, සම්මාදිට්ඨිම්පහං භික්ඛවේ, ද්වයං වදාමි, අත්ථි භික්ඛවේ, සම්මාදිට්ඨි, සාසවා පුඤ්ඤභාගියා උපධිවෙපක්කා, අත්ථි භික්ඛවේ, සම්මා දිට්ඨි, අරියා අනාසවා, ලෝකුත්තරා මග්ගංගා"

"මහණෙනි, සම්මා දිට්ඨිය යනු ඉතාම පැහැදිළි ලෙසින් දෙයාකාර වේයැයි මම ප්‍රකාශ කරමි. එකක් ලෞකිකය, ආසව සහිතය. ආසව ප්‍රහාණය කිරීමක් එහි නැත. පුඤ්ඤභාගිය, යහපත් පින්කම් කර ඇති නිසා ඒ පින් ඵල විපාක ලබන්නට පින උරුම වී ඉතිරිව ඇත. ඒ පින් ඵලදීම සඳහා නැවත නැවතත් උපතක් ලැබිය යුතුය. උපධි විපාකයන් ලබන්නට ඉතිරි වී පවතී. ඒ නිසා සසර නිමාකර නැත. යහපත් ලෞකිකත්වයක් තුළම උරුම කරගන්නා එය මතු සුගති උපත් ලබන තත්ත්වයකි. අරිය තත්ත්වයට පත්වී නැත. මෙය ලෞකික සම්මා දිට්ඨිය යැයි ප්‍රකාශ කර පෙන්වා දෙමි. එය හොඳ, යහපත්, නිවැරදි පැවැත්මක් පමණි. එහි නිවනක් නැත.

නියම ලෝකෝත්තර සම්මා දිට්ඨිය ලෞකික සම්මා දිට්ඨිය ඉක්ම වූ අරිය තත්ත්වයකි. චතු අරිය සත්‍යයන්ම අවබෝධ කරගත් කෙනෙකුටම ලබාගත හැකි සම්මා දිට්ඨියකි. මෙය ලෝකෝත්තර මාර්ගයේ අංගයන් යථාපරිදි දැන ගෙනම ලබාගත යුතු උතුම් අරිය තත්ත්වයකි. ආසව බය කර දමා, ආසව පහකර දමන්නටම දැනගත් ඒ සඳහාම ක්‍රියා කරන කෙනෙකුගේ සම්මා දැක්මයි. සංසාරයේ මෙතෙක් කාලයක් තුළ එකතු කරගත්, ගබඩා කරගත්, සියලු රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණ බය කර දමා නිදහස් විය යුතු බව පසක් කොට දැනගත්, දැකගත් ධම්මෝ සංදිට්ඨිකෝ තත්ත්වය තේරුම්ගත් උත්තමයෙකුගේ දැක්මයි. ''සං'' දැක, ''සං'' වලින් මිදී නිදහස් විය යුතු බව දැනගත්, දැකගත් කෙනෙකු, ලෝකෝත්තර සම්මා දිට්ඨියෙහිම පිහිටා ක්‍රියා කරයි. මෙය ලෞකික අනරිය සම්මා දිට්ඨයෙන් හාත්පසින්ම වෙනස්ය. "සංදස්සේති, සමාදපේති, සමුත්තේජේති සංපහංසේති" යන ලොව්තුරා බුදුපියාණන් ම දේශණාකර වදාළා වූ සංදේශණාවේ උතුම් ඥාණ පද හතරම නිවැරදිව අසා දැන අවබෝධ කරගත් කෙනෙක්ම, ලෝකෝත්තර මාර්ග අංගය වූ සම්මා දිට්ඨියෙහි පිහිටයි. සමාදපේති යන ඥාණ පදය තුළ ඇතුළත් ධර්ම අර්ථයම සම්මා වීමට මඟ පෙන්වා දෙති යන්නයි. සම්මා දිට්ඨියට පත්විය හැකි වන්නේ සංදස්සේති හා සමාදපේති යන ඥාණ පද දෙක නිවැරදිවම අසා දැන තේරුම් ගැනීමෙන්ම පමණි. ඒ උතුම් සංදේශණාව භාවිතයෙන් ඉවත්ව, යටපත් වීම නිසා අද කෙනෙකුට ලෝකෝත්තර සම්මා දිට්ඨිය යනු කුමක්දැයි සිතාගන්නට පවා නොහැකිව, ලෞකිකත්වය නැමැති මැදක් අල්ලා ගෙන, ඒ මැදම කකා ඒ මදයෙන් මත්වී සංසාර ගමනක් යන බව නිවැරදිවම තේරුම් ගත යුතුයි. පෘථග්ජන තත්ත්වයෙන් මිදී අරිය තත්ත්වයට පත්වන්නට පවා අද මිනිසෙකුට ශක්තිය නැත්තේ හැකියාව නැත්තේ බුද්ධ ධර්මය නොදන්නාකම මිස වෙනත් කිසිම අඩුපාඩුවක් නිසා නොවේ. ලෝකෝත්තර අරිය අෂ්ටාංගික මාර්ගය යනු කුමක්දැයි තේරුම් ගන්නට නොහැකි වූ කලක මිනිසෙකුට අරිය තත්ත්වයට පත්විය නොහැකිය.

මේ අනුව මහාචත්තාරීසක සූත්‍රය කිහිප වරක් හෝ කියවා ලෞකික සම්මා දිට්ඨිය හා ලෝකෝත්තර අරිය සම්මා දිට්ඨිය යන දෙක අතර ඇති වෙනස්කම් තේරුම් ගෙන

බුදුපියාණන් පෙන්වා වදාළ නිවන් මාර්ගයේ ගමන් කිරීමට ඔබද සුදුස්සෙකු වන්න. මේ අනුව ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් අරිය පුද්ගලයාගේ ගති ලක්ෂණ පිළිබඳව සරළ ලෙසින් තේරුම් ගත යුතුය.

1. ඔහු "සං" දැක, ''සං'' උපදින ආකාරයද දැකගත් කෙනෙකි. එනම් පටිඉච්ච සං උප්පන්න ධර්මතාව පිළිබඳව යථාවබෝධය ලැබූ කෙනෙකි. තමා තමන් තුළින්ම සං උපදවා ගන්නා ආකාරය පැහැදිළිව දැකගත් කෙනෙකි.

2. තමා පටිච්චසමුප්පන්න ධර්මතාවට බැඳීම නිසා උපදවා ගන්නා (සං) සමුදය ධර්මයන්ම "අනිච්ච'' බව දැකගත් කෙනෙකි. එනම් එසේ උපදවා ගන්නා සමුදය නිසා තමන් සංසාරයට බැඳෙන බවත් ඒ සංසාරයට බැඳීම තම කැමැත්ත පරිදි, රිසිසේ දිගින් දිගටම පවත්වා ගත හැකි එකක් නොවන බවත් දැකීමයි. වයසට යාම, දුකට පත්වීම, මරණයට පත්වීම, නියත වශයෙන්ම සිදුවන බව තේරුම් ගැනීම "අනිච්ච" ධර්මතාව තේරුම් ගැනීමයි. තමන්ට කැමති සේ, තම කැමැත්ත පරිදි පැවැත්විය හැකි දෙයක් නැති බව දැකීමයි.

3. මෙසේ පටිඉච්ච වීම නිසා තමන් උපදවා ගන්නා සමුදය ධර්මයන් උපදවීම නවතා ගැනීමට තමන්ටම ක්‍රමයක් ඇති බව අසා දැන ගැනීමයි. එනම් සමුදය නිරෝධ (නිර්-උදා) කිරීමෙන් නිදහස් විය හැකි බව දැකීමයි. අවිද්‍යාමූල සංඛාර නිරෝධ කිරීමෙන් "භව" නිරෝධ කළ හැකි බව දැකීමයි.

4. සංවරා, සං එකතු කිරීමෙන් වැළකී සංසිඳවා - අතීතයේ එකතු කර, ගබඩා කරගත් සං සිඳවා දමා සම්මා තත්ත්වයට පත්වී, සහමුළින්ම "සං" උපදවන ගති මුල් ගළවා දමා සංවලින් මිදී නිදහස් වී යාමට මගක් ඇති බව දැනගත්, දැකගත් පුද්ගලයා ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් වූ අරිය උත්තමයෙකි.

සංදේශණාවක් අසා මේ කරුණු තේරුම් ගෙන ඉහත දැක් වූ පියවර හතරම යථා පරිදි අවබෝධ කරගත් පුද්ගලයා ලෝකෝත්තර සම්මා දිට්ඨියෙහි පිහිටා ක්‍රියාකළ හැකි අරිය පුද්ගලයෙකි.

මහා චත්තාරීසක සූත්‍රය සියවරක් කියවා කට පාඩම් කර ගත්තත් "සං" යනු කුමක්දැයි තේරුම් නොගත් කෙනෙකුට එහි අර්ථ, ධර්ම, නිරුක්ති තේරුම් ගත නොහැකි නිසා එහි වෙනසක්ද දැකගත නොහැකිය.

"කථමා ච භික්ඛවේ, සම්මාදිට්ඨි අරියා අනාසවා
ලෝකුත්තරා මග්ගංගා, යා බෝ භික්ඛවේ
අරියචිත්තස්ස, අනාසවචිත්තස්ස, අරියමග්ගසමංගිනෝ
අරියමග්ගං භාවයතෝ, පඤ්ඤා, පඤ්ඤින්ද්‍රියං පඤ්ඤාබලං
ධම්මවිචයසංබොජ්ජංගා සම්මාදිට්ඨි මග්ගංගං
අයං වුච්චති භික්ඛවේ සම්මාදිට්ඨි, අරියා අනාසවා
ලෝකුත්තරා මග්ගංගා සෝ මිච්ඡාදිට්ඨියා පහානාය

වායමති, සම්මාදිට්ඨියා උපසම්පදාය, ස්වාස්ස හෝති
සම්මාවායාමෝ සෝ සතෝ මිච්ඡා දිට්ඨිං පජහති
සතෝ සම්මාදිට්ඨිං උපසම්පජ්ජ විහරති සාස්ස හෝති
සම්මාසති ඉතිඉස්සිමේ තයෝ ධම්මා සම්මා දිට්ඨිං අනුපරිධාවන්ති අනුපරිවත්තන්ති
සෙයාථීදං සම්මාදිට්ඨි, සම්මාවායාමෝ සම්මාසති"

බුද්ධ දේශණාවෙන් පෙන්වා දෙන මෙම ධර්ම අර්ථය තරම් වටිනා එතරම් ගැඹුරු ධර්මයක් මුළු ත්‍රිපිටකයේම තවත් තැනක ඇතැයි දැකගත නොහැකි තරම්ය. මුළු අෂ්ටාංගික මාර්ගයම, අරිය ධර්මයම සත්තිස් බෝධි පාක්ෂික ධර්මයම පිරිසිඳ දැනගත හැකි ධර්ම සම්භාරයක් මේ ධර්ම පාඨයේ ගැබ්වී ඇත. පිටු දහසක තරම් වූ පොතකින් හෝ මෙය විස්තර කර, පෙන්වා දී, අවසන් කළ නොහැකි වුවත් මෙහි අර්ථය කෙටියෙන් පැහැදිළි කරන්නට උත්සාහ කරමි.

ප්‍රඥා බලය, ප්‍රඥා ඉන්ද්‍රිය, ප්‍රඥාව යන සියල්ල අවස්ථා කිහිපයකදී හෝ මතුකර උපදවා පහදා ගත හැකි වන්නේ රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණ ක්‍රමයෙන් පහකර දමා, චිත්තසංථානයෙන් ඒ ගති ඉවත් කර ගැනීමෙනි. රාග, ද්වේෂ, මෝහ ගතිවලින් සහමුළින්ම මිදී නිදහස් වීම "සම්මා" වීමයි. "සං" වලින් මිදී නිදහස් වීමයි. සම්මා දිට්ඨියට පත්වීම එකවරම කරගත නොහැකි නිසා මේ සඳහා මුලින්ම සම්මා විරිය, සම්මා වායාමය දැරිය යුතුය. එනම් සංවලින් මිදී නිදහස් වීම සඳහා යම් වීර්යයක් යම් උත්සාහයක්, යම් වායාමයක් භාවිතා කළ යුතු බවයි. සම්මා වායාමය පිරීමෙන් නිසි ප්‍රතිඵල ලබාගත හැකි වන්නේ සම්මා සතියෙහිම පිහිටා ක්‍රියා කළහොත් පමණි. සම්මා සතිය යනුවෙන් පෙන්වා දුන්නේ හොඳ සිහිය යන අදහසට වඩා ඉතාම බලවත් අර්ථවත් එකකි. හේතුඵල ධර්මයට බහා ගළපා බලා, හේතුවම ඉවත් කිරීමෙන් - පටිඉච්ච ධර්මතාවයට නොබැඳී, නොගැටී, මිදී නිදහස් වීමෙන් සමුදය ධර්මයන් බිහි කිරීම නිර්උදා කර ගැනීමේ ශක්තිය සතියයි. සමුදය නිරෝධ කරගත හැකි වන්නේ සතියෙහි පිහිටා ක්‍රියා කිරීමෙන් පමණි. මේ සඳහා තවත් වැදගත් බෝධි පාක්ෂික ධර්මයක්ද උපකාර වේ. එය නම් ධම්ම විචය සම්බොජ්ජංගයයි. ධම්ම විචය සම්බොජ්ජංගය යනුද හේතුඵල විග්‍රහයේම විවිධ විග්‍රහයන් තුළින් විග්‍රහ කරන ලද සමුදය නිරෝධ කරගන්නට උපකාර වන ද්වතාව ධර්මයන් විචක්ෂණය කර විචාරය කර බැලීමේ හැකියාවයි. රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කර දැමීමත් සමගම මිච්ඡා දිට්ඨිය ප්‍රහාණය වී මිච්ඡා දිට්ඨියෙන් ඉවත්වීමද සිදුවෙයි. මිච්ඡා දිට්ඨියෙන් ඉවත් වූ පමණටම අරිය චිත්තයක්, අනාසව චිත්තයක් ඇති නොවේ. ඒ සඳහා සීල, සමාධි පඤ්ඤා යන කොටස් තුනම සම්පූර්ණ කර ගැනීම සඳහා සංවර, සංසිඳවීම හා සම්මා වීම යන පියවර තුනම උපකාරයෙන් "සං" ඉවත් කරගත යුතුය. චිත්තසංථානය (සං තැන්පත් කර ගන්නා තැන) සහමුළින්ම පිරිසිදු කරගෙන, "සං වලින්" තොර තැනක් බවටම සිත පත්කර ගැනීම ප්‍රභාශ්වර චිත්තයක් බවට පත්කර ගැනීමයි. අරිය තත්ත්වයට පත්වීමයි. මෙතැනදී සම්මා දිට්ඨිය ලෝකෝත්තර වශයෙන් පූර්ණ වීම යනු සම්මා වායාමයත්, සම්මා සතියත්, සම්මා දිට්ඨියත් යන ධර්මයන් තුනම එනම් මිදී නිදහස්වන්නට උපකාරවන පියවර තුනම එකවර පුර්ණ වීමයි. මේ ධර්මයන් තුන සම්පූර්ණ කර ගැනීම යනු යමක් එකතු කර ගැනීම, දියුණු කර ගැනීම, වර්ධනය කර ගැනීම හෝ පූරණය කරගැනීම යන අදහස් නොවේ. අතහැර මිදී නිදහස් වීම යන අර්ථයෙන්ම "සම්මා" යන පදය භාවිතා කළ

තැනකි. ලෞකික සම්මා දිට්ඨියේ පිහිටීම යනු යහපත් දේ එකතු කර ගැනීමකි. දියුණු කර ගැනීමකි. පූර්ණය කර ගැනීමකි. හොඳ යහපත් පුණ්‍ය කර්ම රැස්කර ගැනීමත් එහිදී අදහස් කරයි. නමුත් මෙතැනදී පින්, පව්, හොඳ, නරක සියලු රැස්කරගත්, ගබඩා කරගත් කර්ම බීජ, විඤ්ඤාණ බීජ, උත්පත්ති බීජ ප්‍රහාණය කර දමා, අස්කර දමා, ගති ලක්ෂණයන් ඉවත් කරගත යුතු බව ප්‍රඥාවෙන්ම දැකීමයි. එය ලෝකෝත්තර මාර්ග අංගයන් පූර්ණකර ගත හැකි දැකීමයි. සම්මා දිට්ඨියයි. සම්මා සංකප්පය විග්‍රහ කිරීමේදීත් මේ ආකාරයෙන්ම විස්තර කෙරේ.

"කථමෝ ච භික්ඛවේ සම්මාසංකප්පෝ, සම්මාසංකප්පම්පහං භික්ඛවේ ද්වයං වදාමි. අත්ථි භික්ඛවේ සම්මාසංකප්පෝ සාසවෝ පුඤ්ඤභාගියෝ උපධිවෙපක්කෝ, අත්ථි භික්ඛවේ සම්මාසංකප්පෝ අරියෝ අනාසවෝ ලෝකුත්තරෝ මග්ගංගෝ"

"මහණෙනි, සම්මා සංකප්පය දෙයාකාර යැයි වදාරමි. එකක් ලෞකිකය. ආසව සහිතය. රැස්කර ගත් පුඤ්ඤභාගයන්ගෙන් යුක්තය. ඵලවිපාක දෙන්නට සමත් උපාදානය කරගත් ගතිවලින් යුක්තය. රාග, ද්වේෂ, මෝහ ගති සහිතය. අනික ලෝකෝත්තර සම්මා සංකප්පයයි. ආසව සහිත වූ, පුණ්‍යභාගිය වූ, උපධි විපාක ඇත්තා වූ, නෙක්ඛම්ම සංකප්පය, අව්‍යාපාද සංකප්පය, අවිහිංසා සංකප්පය යනු ලෞකික සංකප්පයයි. අද බුද්ධාගමේ ධර්මය දේශණා කරන කවුරුත් සම්මා සංකප්පය ලෙසින් විග්‍රහ කරන්නේ මෙය පමණකි. මෙය ලෞකික වූත්, හොඳ යහපත් වූත් නිවැරදි ජීවිතයක් ගෙවා දැමීම සඳහා උපකාර වෙයි. නිවන් අවබෝධ කරගැනීමට නම් මේ ලෞකික සංකප්පය ඉක්මවා ගිය ලෝකෝත්තර සම්මා සංකප්පයම කුමක්දැයි දැන, තේරුම් ගෙන එහිම පිහිටා ක්‍රියා කළ යුතුය.

එය මෙසේ විග්‍රහ කර පෙන්වා දෙයි. ''කථමෝ ච භික්ඛවේ, සම්මාසංකප්පෝ අරියෝ අනාසවෝ ලෝකුත්තරෝ මග්ගංගෝ, යෝ බෝ භික්ඛවේ අරියචිත්තස්ස අනාසව චිත්තස්ස අරියමග්ගසමග්ගිනෝ, අරියමග්ගංගං භාවයතෝ තක්කෝ, විතක්කෝ, සංකප්පෝ අප්පණා ව්‍යප්පණා චේතසෝ අභිනිරෝපණා වචීසංකාරෝ, අයං භික්ඛවේ සම්මාසංකප්පෝ අරියෝ අනාසවෝ ලෝකුත්තරෝ මග්ගංගෝ."

"සෝ මිච්ඡාසංකප්පස්ස පහාණාය වායමති, සම්මාසංකප්පස්ස උපසම්පදාය, ස්වාස්ස හෝති, සම්මාවායාමෝ, සෝ සතෝ මිච්ඡාසංකප්පං පජහති. සතෝ සම්මා සංකප්පං උපසම්පජ්ජ විහරති. සාස්ස හෝති, සම්මා සති, ඉතිඉස්සිඉමේ තයෝ ධම්මා සම්මාසංකප්පං අනුපරිධාවන්ති, අනුපරිවත්තන්ති, සෙය්‍යථීදං, සම්මාදිට්ඨි, සම්මා වායාමෝ, සම්මාසති"

මෙතැන විග්‍රහ කරන ලෝකෝත්තර සම්මා සංකප්පය පූර්ණ කරගත හැකි වන්නේ "සං" දැක ගැනීමේ හැකියාව ඇති කරගත් කෙනෙකුට පමණි. සිතක කාම විතර්ක, ව්‍යාපාද විතර්ක, විහිංසා හා පාප විතර්ක මතුවන්නේ අතීතයේ එකතුකර, ගබඩා කරගත් "සං" චිත්තසංථානයේ ගබඩාවී පවතින හෙයිනි. මේ "සං" පහදා ඉවත්කර දමන්නට දරණ උත්සාහය සම්මා වායාමයයි. මේ "සං" ක්‍රියාත්මක වන ආකාරය හේතුඵල ධර්මයට බහා ගළපා බලා දැක ගන්නට හැකි ශක්තිය සම්මා සතියයි. "සං" පහදා, උපදවා, ඉවත්කර,

අස්කර ගන්නට ඇප කැපවී ක්‍රියාකරන පුද්ගලයා "උපසම්පදා" යන උසස් නාමයෙන් හැඳින්වූ පුද්ගලයායි. සම්මා දිට්ඨියේ, සම්මා දිට්ඨියට පත් නොවූ කෙනෙකු බුද්ධ භාෂිතයේ එන "උපසම්පදා" යන උසස් ක්‍රියාව එනම් "සං" උපදින තැන දැක, "සං" පහදා දැන "සං" ඉවත්කර, ඉන් මිදී නිදහස් වන්නට ඇප කැපවී ක්‍රියා කරන කෙනෙකුන් නොවේ. ලෝකෝත්තර සම්මා අංග අටම විග්‍රහ කර, විස්තර කිරීමේදී "මිච්ඡා දිට්ඨි පහානාය - සම්මා දිට්ඨියා උපසම්පජ්ජති, මිච්ඡා සංකප්පස්ස පහානාය - සම්මා සංකප්පස්ස උපසම්පදාය, මිච්ඡා වාචාය පහානාය සම්මා වාචාය උපසම්පදාය, මිච්ඡා කම්මන්තස්ස පහානාය - සම්මා කම්මන්තස්ස උපසම්පදාය, මිච්ඡා ආජීව පහානාය සම්මා ආජීව උපසම්පදාය" යනුවෙන් අවස්ථා පහකදීම ''සං'' උපදින තැන දැක, "සං" පහදා දැකගෙන "සං" ඉවත්කර මිදී "සං" වලින් තොර චිත්තසංථානයක් ඇති කර ගන්නට ඇප කැප වී ක්‍රියා කිරීම උපසම්පදා යනුවෙන් පෙන්වා දුන් ලෝකෝත්තර සම්මා අංගයන් සම්පූර්ණ කර ගැනීමයි. සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව යන සම්මා අංගයන් පහම පූරණය කරගන්නට සම්මා දිට්ඨිය පුබ්බංගම වෙයි. පෙර ගමන්කරු වෙයි. එනම් "සං" උපදින තැන දැකීම අනිවාර්යය වෙයි. "සං" දැකගත් පසුව ඉවත් කර අස්කර දැමිය යුතු "සං" රාග, ද්වේෂ, මෝහ ගති පහදා ඉවත් කිරීමටද සම්මා වීර්යයක්, වායාමයක් උත්සාහයක් දැරිය යුතුය. ඒ සඳහා සත්‍යාවබෝධයක්ම තිබිය යුතුය. ඒ සම්මා සතියෙහි පිහිටා ක්‍රියා කිරීමට ඇති සත්‍යාවබෝධයයි.

ලෝකෝත්තර සම්මා දිට්ඨිය, ලෝකෝත්තර සම්මා සංකප්පය, ලෝකෝත්තර සම්මා වාචා, ලෝකෝත්තර සම්මා කම්මන්තය හා ලෝකෝත්තර සම්මා ආජීවය යන අවස්ථා පහකදීම "සං" ප්‍රහාණය කර "සං" ඉවත් කර දමන්නට ක්‍රියා කිරීමේදී සම්මා දිට්ඨිය පුබ්බංගමය. එනම් "සං" වලින් මිදී නිදහස් විය යුතු බව ප්‍රත්‍යක්ෂ කර දැකගත යුතුමය. ඉවත් කර, අස්කරගත යුතු කිළිටි, කැත, කුණු, කෙළෙස් නිවැරදිවම තමා තුළම මුල්බැස ගෙන ඇති බව යථාපරිදි නොදුටු කෙනෙකුට අස්කර ඉවත් කරගත යුතු දේ කුමක්දැයි තේරුම් ගත නොහැකිය. එය නිවැරදිවම තේරුම් ගත් පසුව පමණක් එය ඉවත් කර, අස්කර දැමීමටද උත්සාහයක්, වීර්යයක් දැරිය හැකි වෙයි. අවසාන වශයෙන් ඒ කිළිටි, කහට, කැත, කුණු කෙළෙස් චිත්තසංථානයෙන් ඉවත් කර දැමූ බව ප්‍රත්‍යක්ෂ කර දැන ගැනීම කළ හැක්කේද සම්මා සතියෙහි පිහිටා බැලීමෙනි.

මේ අනුව ලෞකික සම්මා දිට්ඨිය යනු මේ පැවැත්ම තුළම ඇති හොඳ, යහපත් නිවැරදි දැකීමකි. නමුත් ලෝකෝත්තර සම්මා දිට්ඨිය යනු ඉවත් කර, අස්කර දැමිය යුතු රාග, ද්වේෂ, මෝහ ගති උපදින තැන දැක ගැනීමකි. ඒවායින් මිදී නිදහස් විය යුතු බව දැකීමකි. සම්මා සංකප්පය ලෞකික වශයෙන් හොඳ, නිවැරදි, යහපත් සංකල්පනා පැවැත්වීමයි. නමුත් ලෝකෝත්තර සම්මා සංකප්පය යනු කාම විතර්ක, ව්‍යාපාද , විහිංසා විතර්ක උපදින්නට හේතු වූ මූල් වූ නිදාන වූ ගති ලක්ෂණයන් දැක ඒවා සහමුලින්ම චිත්තසංථානයෙන් ඉවත් කර දැමීම සඳහා ක්‍රියා කිරීමයි. සම්මා වාචා යනු හොඳ, යහපත්, නිවැරදි වචන භාවිතා කිරීමයි. ලෝකෝත්තර සම්මා වාචා යනු අයහපත් වචන භාවිතා කිරීමට මුල් වූ හේතුව දැක ඊට මුල් වූ නිදානය දැක ඒ ගති ලක්ෂණයන් සිතින්ම ඉවත් කර චිත්ත පාරිශුද්ධිය ඇති කර ගැනීමට ක්‍රියා කිරීමයි. සම්මා කම්මන්ත යනු යහපත් කර්මාන්ත, ක්‍රියාවන් කිරීමයි. ලෝකෝත්තර සම්මා කම්මන්ත යනු සංසාර ගමන දිගින්

දිගටම පවත්වාගෙන යන්නට උපකාර වන "සං" උපදවන කර්ම බීජ උපදවන මුල් දැක ඒ මුල් ගළවා දමා නිර් උදා කර දැමීමයි.

සම්මා ආජීව යනු යහපත්, හොඳ ජීවිතයක් පැවැත් වීමයි. ලෝකෝත්තර සම්මා ආජීව යනු ජරාවට පත්වන්නට, දිරායන්නට, ගෙවී යන්නට හේතුවන සියල්ලම අස්කර දමා ඉන් නිදහස් වීමයි. ආජීව යනු ජීවත් වීම අවසන් වීම යන්නයි. ජීවත් වීම යනු දිරාපත්වන, ජරාවට පත්වෙන, ගෙවී, විපරිණාමයට පත්වන වතක් පැවැත්වීමයි.

මහා චත්තාරීසක සූත්‍ර දේශණාවේදී මේ සියල්ලම විස්තර කර පෙන්වා දී, ඊළඟට මෙහි අනුපිළිවෙලද පෙන්වා දෙයි.

"තත්‍ර භික්ඛවේ, සම්මාදිට්ඨි පුබ්බංගමා හෝති, කථඤ්ච භික්ඛවේ, සම්මාදිට්ඨි පුබ්බංගමා හෝති, සම්මාදිට්ඨිස්ස භික්ඛවේ සම්මාසංකප්පෝ පහෝති, සම්මා සංකප්පස්ස, සම්මාවාචා පහෝති, සම්මාවාචස්ස සම්මාකම්මන්තෝ පහෝති, සම්මා කම්මන්තස්ස සම්මාආජීවෝ පහෝති, සම්මාආජීවස්ස සම්මාවායාමෝ පහෝති, සම්මා වායාමස්ස, සම්මාසති පහෝති, සම්මාසතිස්ස සම්මාසමාධි පහෝති , සම්මාසමාධිස්ස සම්මාඤාණං පහෝති, සම්මාඤාණස්ස සම්මාවිමුක්ති පහෝති, ඉති ඛෝ භික්ඛවේ අට්ඨංගසමන්නාගතෝ සේඛෝ දසාංගසමන්නාගතෝ අරහා හෝති "

මෙහි පෙන්වා දෙන පරිදි සම්මා දිට්ඨිය යන්න වැදගත්ම මූලිකම, ප්‍රධානතම අංගයයි. එනම් මෙතෙක් සංසාරයේ එකතු කරගත් තවදුරටත් එකතු කරන "සං" පිළිබඳව යථාපරිදි දැන සියලු දුකට හේතුව, මුල, නිදානය මේ "සං" ගති බව දැක ඉන් මිදී නිදහස් විය යුතුය යන දෘෂ්ඨියට පත්වීමයි. එවන් ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත්වූ පුද්ගලයා සම්මා සතියෙහි පිහිටා, සම්මා වායාමයක් දරත්ම අෂ්ටාංගික මාර්ගයම සම්පූර්ණ වී, සේඛ (අරිය) තත්ත්වයටත්, සම්මා ඥාණ "සං"වලින් මිදුණු ඥාණයන් ලැබගෙන සම්මා විමුක්තියට පත් වී, ප්‍රඥා විමුක්තියටත් පත්වීමෙන් අරහත් තත්ත්වයටම පත්වේ, යන්න මෙහි තේරුමයි. මේ අෂ්ටාංගික මාර්ගය අනුපූර්ව ප්‍රතිපදාවකි. එකක් මුල්කොටගෙනම ඊළඟ අවස්ථාව සම්පූර්ණ වෙති යන්න අවධාරණය කර පෙන්වා දීමකි. "පහෝති" යන පදය භාවිතා කළේ ඒ නිසයි. "සං දැක" "සං" වලින් මිදිය යුතු බව දැක "සං" වලින් මිදී නිදහස් වන්නට අනුගමනය කළයුතු මඟ දැකීම සම්මා දිට්ඨියයි. සම්මා දිට්ඨියේ පිහිටීමත් සමඟ සම්මා වායාමය ද ඒ අනුව සම්මා සංකප්ප (සංවලින් මිදී නිදහස් විය යුතු බව දැකීම) සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව යන අවස්ථාවලින්ද මිදී නිදහස් වන්නටද ක්‍රියා කිරීම නිවන් මාර්ගයේ ගමන් කිරීමයි.

## මහාචත්තාරීසක සූත්‍ර දේශණාව

මහාචත්තාරීසක සූත්‍රයේ පෙන්වා වදාළ පැහැදිළිවම ප්‍රකාශ කර වදාළ තවත් වැදගත්ම ලක්ෂණයක් වෙයි. එනම් ලෞකික සම්මා වාචා, ලෞකික සම්මා කම්මන්ත හා ලෞකික සම්මා ආජීව යන අංගයන් තුන සඳහා වේරමණී සීලයම පමණක් පෙන්වා වදාළ අතර ලෝකෝත්තර සම්මා වාචා, ලෝකෝත්තර සම්මා කම්මන්ත, ලෝකෝත්තර සම්මා ආජීව යන අංගයන් සම්පූර්ණ කර ගැනීමේදී වේරමණී සීලය ප්‍රමාණවත් නොවන බවත්

වේරමණී සීලයද ඇතුලුව සංවර සීලය, ප්‍රහාණ සීලය, චේතනා සීලය හා අයිතික්කම සීලය යන අරියකාන්ත පංච සීලයම සම්පූර්ණ කර ගත යුතු බවත් පෙන්වා දීමයි.

එහි පළමු කොටම මිච්ඡා වාචා පැහැදිළි කරයි.

1. "කථමා ච භික්ඛවේ මිච්ඡාවාචා"-ඃ මුසාවාදෝ, පිසුනාවාචා, ඵරුසාවාචා, සංඵප්පලාපො, අයං භික්ඛවේ මිච්ඡා වාචා"

දෙවනුව සම්මා වාචා විස්තර කරයි.

2. "කථමා ච භික්ඛවේ සම්මාවාචා" සාසවා පුඤ්ඤභාගියා උපධිවෙපක්කා, මුසාවාදා වේරමණී, පිසුනාය වාචාය වේරමණී, ඵරුසාය වාචාය වේරමණී, සංඵප්පලාපා වේරමණී අයං භික්ඛවේ සම්මාවාචා සාසවා පුඤ්ඤභාගියා උපධිවෙපක්කා"

තුන්වනුව ලෝකෝත්තර සම්මා වාචා විග්‍රහ කරයි.

3. ''කථමා ච භික්ඛවේ සම්මාවාචා අරියා අනාසවා ලෝකුත්තරා මග්ගංගා යා බෝ භික්ඛවේ, අරියචිත්තස්ස අනාසවචිත්තස්ස අරියමග්ගසමංග්ගිනෝ අරියමග්ගං භාවයතෝ චතුහිපි වචීදුච්චරිතේහි ආරති විරති පටිවිරති වේරමණී, අයං භික්ඛවේ සම්මාවාචා අරියා අනාසවා ලෝකුත්තරා මග්ගංගා. සෝ මිච්ඡාවාචාය පහානාය වායමති, සම්මාවාචාය උපසම්පදාය, ස්වාස්ස හෝති, සම්මාවායාමෝ, සෝ සතෝ මිච්ඡාවාචං පජහති, සතෝ සම්මාවාචං උපසම්පජ්ජ විහරති. සාස්ස හෝති සම්මාසති, ඉතිස්සිමේ තයෝ ධම්මා සම්මාවාචාං අනුපරිධාවන්ති, අනුපරිවත්තංති, සෙය්‍යථීදං සම්මාදිට්ඨි, සම්මාවායාමෝ, සම්මාසති"

මෙතැන දෙවැනි හා තුන්වැනි පාඨවලින් පෙන් වූ සම්මා දිට්ඨි දෙක සසඳා බලන කළ අද බුද්ධාගමේ භාවිතා කරන්නේ ලෞකික සම්මා දිට්ඨිය පමණක්ම බවත් ඊට උචිත වේරමණී සීලය පමණක් සමාදන් වන බවත් ඉතාමත්ම පැහැදිළිය. මෙම වේරමණී සීලය, යහපත් හොඳ නිවැරදි දිවි පැවැත්මක් සඳහා භාවිතා කළයුතු එකක් පමණි. මෙය කිසිසේත්ම නිවන් අවබෝධයට නම් ප්‍රමාණවත් සීලයක් නොවන බව මෙයින් සක්සුදක් සේ පැහැදිළි වෙයි. මේ වේරමණී සීලය හෝ රැකීම නරක දෙයක් නම් නොවේ. නමුත් එහි නිවන නම් නැත.

තුන්වන පාඨයෙන් ඉතාම පිරිසිදුවත් ඉතාම පැහැදිළිවත් සම්මා වාචා අංගය යටතේ නිවනට උපකාරවන සීලය - ආරති, විරති, පටිවිරති, වේරමණී යන පදවලින් පෙන්වා විග්‍රහ කරදී ඇත. මෙතැන සංවර සීලය, ප්‍රහාණ සීලය, චේතනා සීලය හා අයිතික්කම සීලයද ඇතුලුව වේරමණී සීලයද සම්පූර්ණ වී අරියකාන්ත සීලයෙහි පිහිටන බව ප්‍රකාශ කර ඇත. ඒ නිසා නිවන් අවබෝධය සඳහා නම් උපකාර වන්නේ බුද්ධ දේශණාවෙන් පෙන්වා වදාළ මේ උතුම් පංච සීලය මිස "වේරමණී සික්ඛාපදං සමාධියාමි" යන ලෙසින් අද සම්මතයෙන් සමාදන් වන සීලය පමණක් නොවේ. ආරති, විරති, පටිවිරති, වේරමණී යනු කිසිසේත්ම සමාදන් වූ පමණට පිහිටන සීලයක්ද නොවේ. මෙය කාගෙන්වත් ලබාගත හැකි සීලයක්ද නොවේ. මෙය කාටවත් දිය හැකි සීලයක්ද නොවේ.

එය යථාවබෝධයෙන්ම තමන් සංවර වීමේ චේතනාවෙන්ම ප්‍රහාණය කර නිදහස් වීමේ චේතනාවෙන්ම වෙන් වී, විරමණය වීමෙන් ලබන සීලයක පිහිටා ක්‍රියා කිරීමයි. සංවරවී, සංසුන් වී, සංයමයට පත්වී, සංසිඳුවා, සම්මා වීමට උපකාර වන සේ පිහිටන මේ සීලය "උපසම්පදා" යන උසස් තත්ත්වයට පත්වීමට බුද්ධ භාෂිතයේ පෙන්වා දුන් දහසක් සංවර සීලයයි. මෙය ප්‍රත්‍ය+සං+නිශ්‍රිත සීලයයි. බුද්ධ විනයේ එන නිවැරදි සංවර සීලයයි. සම්මා දිට්ඨියෙහි පිහිටා, සම්මා වායාමය සපුරාගෙන, සම්මා සතියෙන්ම මෙවන් උතුම් සම්මා වාචා අංගයන් සම්පූර්ණ කරගත හැකිවෙයි. මෙය සිල්පද සමාදන් වී ලබන ශික්ෂණය හෝ හික්මීම අභිබවා ගොස් සංවරත්වයටම පත්වීමක් බව ලෝකෝත්තර සම්මා අංගයන් පිළිබඳව ලියැවී ඇති බුද්ධ භාෂිතය කියවා තේරුම් ගත හැකි හැම මිනිසෙකුටම අවබෝධකර ගතහැකි වෙනු ඇත. සම්මා කම්මන්ත පැහැදිළි කිරීමේදීද මේ ආකාරයෙන්ම තුන් ආකාරයක තිපරිවට්ටයක් පෙන්වා දී ඇත.

1. මිච්ඡා කම්මන්තය විස්තර කරමින්,
"කථමෝ ච භික්ඛවේ මිච්ඡාකම්මන්තා, පාණාතිපාතෝ, අදින්නාදානං, කාමේසු මිච්ඡාචාරෝ අයං භික්ඛවේ මිච්ඡාකම්මන්තෝ කථමෝ ච භික්ඛවේ සම්මාකම්මන්තෝ සම්මාකම්මන්තංපහං භික්ඛවේ, ද්වයං වදාමි." (දෙයාකාර යැයි වදාරමි)

2. ලෞකික සම්මා කම්මන්තය පෙන්වා දෙමින්,
"කථමෝ ච භික්ඛවේ සම්මාකම්මන්තෝ, සාසවො පුඤ්ඤභාගියෝ, උපධිවෙපක්ඛා, පාණාතිපාතා වේරමණී, අදින්නාදානා වේරමණී, කාමේසු මිච්ඡාචාරා වේරමණී, අයං භික්ඛවේ සම්මාකම්මන්තා සාසවෝ පුඤ්ඤභාගියෝ උපධිවෙපක්ඛා"

3. ලෝකෝත්තර සම්මා කම්මන්තය පැහැදිළි කර දෙමින්,
"කථමෝ ච භික්ඛවේ, සම්මාකම්මන්තෝ අරියෝ, අනාසවෝ, ලෝකුත්තරෝ මග්ගංගෝ, යා බෝ භික්ඛවේ අරියචිත්තස්ස, අනාසවචිත්තස්ස, අරියමග්ග සම්මග්ගිනෝ, අරියමග්ගං භාවයතෝ, තීහිපි කායදුච්චරිතේහි ආරති විරති පටිවිරති වේරමණී අයං භික්ඛවේ සම්මාකම්මන්තෝ, අරියෝ, අනාසවෝ ලෝකුත්තරො මග්ගංගෝ, සෝ මිච්ඡාකම්මන්තස්ස පහානාය වායමති, සම්මා කම්මන්තස්ස උපසම්පදාය ස්වාස්ස හෝති සම්මාවායාමෝ සෝ සතෝ මිච්ජාකම්මන්තං පජහති. සතෝ සම්මාකම්මන්තං උපසම්පජ්ජ විහරති, සාස්ස හෝති සම්මාසති, ඉතිඉස්ස මේ තයෝ ධම්මා සම්මාකම්මන්තං අනුපරිධාවන්ති, අනුපරිවත්තන්ති, සෙය්‍යථිදං සම්මාදිට්ඨි, සම්මාවායාමෝ සම්මාසති"

මෙතැනදී පැහැදිළිවම ප්‍රකාශ කර පෙන්වා දිය යුතු වන්නේ ලෝකයාට බුදු කෙනෙකුන් පහළවී උතුම් ධර්මය දේශණා කරන්නේ එතෙක් ලෝකයා භාවිතා කළ හොඳ, යහපත් නිවැරදි ලෝකයම තවදුරටත් අල්ලා ගෙන, සංසාර සැප විඳින්නට හොඳ මගක් පෙන්වා දීම සඳහා කරන දේශණාවක් නොවන බවයි. මෙයට පෙර නොඇසූ, මෙයට පෙර

භාවිතයේ නොතිබූ, දැන නොසිටි උතුම් ධර්මයක් (පුබ්බේ අනනුස්සුතේසු ධම්මේ) අලුත්ම, අර්ථ, ධර්ම, නිරුක්ති විග්‍රහයක් සහිතව දේශණා කර ලෝකයාට සංසාර දුකෙන් මිදී නිදහස් වීමේ නිවැරදි මාර්ගයම පෙන්වා දීමට ක්‍රියාකළ බවයි. මේ නිසා මහාමායා දේවිය පවා එදා සමාදන් වූ වේරමණී සීලය අභිභවා ආරති, විරති, පටිවිරති, වේරමණී යන පංච සීලය ලෝකයාට කියාදී, එම අරියකාන්ත සීලයේ පිහිටා ක්‍රියාකරන්නට අරිය මාර්ගය පෙන්වාදීම ලොව්තුරා බුදුකෙනෙකුන් ලොව පහළවී කරුණු ලබන උතුම්ම ක්‍රියාවයි.

චුල්ල හත්ථිපදෝපම සූත්‍රයේදී මෙම අරියකාන්ත සීලය නිවැරදි ලෙසින් සියලුම සිල් පදයන් සහිතව පෙන්වා දී "උපසම්පදා" නැමැති උසස් තත්ත්වයට පත්වන්නට අවශ්‍යවන අරියකාන්ත සීලය, සංවර සීලය, චේතනා සීලය, වේරමණී සීලය, ප්‍රහාණ සීලය, හා අයිතික්කම සීලය යන පංච සීලයක් විස්තර සහිතව විග්‍රහකර පෙන්වා දී ඇත. අද මේ සූත්‍රයේ පෙන්වා දී ඇති උතුම් සීල ප්‍රතිපදාවද භාවිතයේ නැත.

මේ අනුව පරම්පරා ගණනක් තුළ සම්මත කරගෙන වැරදි ලෙසින් පවත්වාගෙන ආ සීලය සමාදන් වීමක් පමණි. අරිය තත්ත්වයට පත්වීමට උපකාර වන අරියකාන්ත සීලයත් උපසම්පදා සීලයත් දෙයාකාරයක, දෙවිධියක සීල ප්‍රතිපදාවන් බව නිවැරදිවම තේරුම් ගැනීමට බුද්ධ භාෂිතය නිවැරදිවම හැදෑරිය යුතුබව පෙන්වා දිය යුතුය. හොඳ, යහපත්, නිවැරදි ලෞකිකත්වයට පමණක් උපකාරවන සංසාර ගමන දිගින් දිගටම පවත්වා ගෙන යන්නට උපකාර වන "සාසවා පුඤ්ඤභාගියා උපධිවෙපක්ඛා" යනුවෙන් පෙන්වා දුන් ලෞකික සම්මා අංගවලට හිරවී අද සිල් රැකීමද, භාවනා කිරීමද කරයි.
සම්මා ආජීවයද මේ ආකාරයෙන්ම තුන් ආකාරයට පෙන්වා දුන්හ.

1. මිච්ඡා ආජීවය
2. ලෞකික සම්මා ආජීවය
3. ලෝකෝත්තර සම්මා ආජීවය

මෙතැනදී බුදුපියාණන් පෙන්වා වදාළේ ඉතාමත්ම ගැඹුරු ලෝකෝත්තර ධර්මයකි. සම්මා වාචා, සම්මා කම්මන්ත යන අංගයන් දෙකෙහි පෙන්වා වදාළ සිල් පදයන්ට අමතරව සියලු සිල්පද සංවරත්වයට උපකාර වන බවත් සංවරත්වයේ පිහිටා සීල සමාධි, ප්‍රඥා යන අංගයන් තුනම සම්පූර්ණ කර ගැනීමේදී ජීවත්වීම කුමක්ද යන්න පිළිබඳව යථාභූත ඥාණය අනුව ඇත්ත දැක ගැනීමට හැකි වී ඉන් මිදී නිදහස් වීමට ගතයුතු පියවරයන් පෙන්වා දීමත් මෙතැනදී සිදු විය.
4
මහාචත්තාරීසක සූත්‍රයේ පෙන්වා වදාළ මීළඟ පියවර වන්නේ අනාපානසති භාවනාවට උපකාර වන ද්වතාවය විග්‍රහ කිරීමයි. එනම් සේවිතබ්බා, අසේවිතබ්බා යන කොටස් දෙකට අයත් ධර්මයන් විග්‍රහ කිරීමයි. සම්මා දිට්ඨියේ සිට සම්මා සමාධි තෙක් අංග අටේදීමත් ඊට පසුව සම්මා ඥාණ හා සම්මා විමුක්ති යන අංග දෙකද ඇතුලුව අංග දහයකදීමත් මේ දෙපැත්තම විග්‍රහ කරදී පෙන්වා වදාරා ඇත.

1. සම්මාදිට්ඨි පුබ්බංගමා හෝති, සම්මාදිට්ඨිස්ස භික්ඛවේ මිච්ඡාදිට්ඨි නිජ්ජිණ්ණා හෝති, යේ ච මිච්ඡාදිට්ඨි පච්චයා අනෙකේ පාපකා අකුසලා

ධම්මා සංභවන්ති. තේ චස්ස නිජ්ජිණ්ණා හොන්ති. සම්මාදිට්ඨිපච්චයා ච අනෙකේ කුසලා ධම්මා භාවනා පරිපූරිං ගච්ඡන්ති.

2. යෙ ච මිච්ඡාසංකප්පපච්චයා අනෙකේ පාපකා අකුසලා ධම්මා සංභවන්ති. තේ චස්ස නිජ්ජිණ්ණා හොන්ති. සම්මාසංකප්පපච්චයා ච අනේකේ කුසලා ධම්මා භාවනා පරිපූරිං ගච්ඡන්ති.

මෙලෙස සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි යන අංග අටම විස්තර කර දුන්හ. ඊළඟට,

1. සම්මා ඤාණස්ස මිච්ඡා ඤාණං නිජ්ජිණ්ණං හෝති. යෙ ච මිච්ඡාඤාණං පච්චයා අනේකේ පාපකා අකුසලා ධම්මා සංභවන්ති. තේ චස්ස නිජ්ජිණ්ණා හොන්ති. සම්මාඤාණපච්චයා ච අනේකේ කුසලා ධම්මා භාවනා පරිපූරිං ගච්ඡන්ති.

2. සම්මා විමුත්තස්ස භික්ඛවේ මිච්ඡා විමුත්ති නිජ්ජිණ්ණා හෝති. යෙ ච මිච්ඡා විමුත්තිපච්චයා අනෙකේ පාපකා අකුසලා ධම්මා සංභවන්ති තේ චස්ස නිජ්ජිණ්ණා හොන්ති. සම්මාවිමුත්තිපච්චයා ච අනේකේ කුසලා ධම්මා භාවනා පරිපූරිං ගච්ඡන්ති"

"මෙහි සංභවන්ති" යැයි පදයක් දස අවස්ථාවෙහිම යොදාගෙන ඇත. "සං" භවයක් හටගන්නා ආකාරය පෙන්වා දුන්නේ මෙතැනදීය. අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්මයෙහි "සංඛාර පච්චයා විඤ්ඤාණ ............ උපාදාන පච්චයා භව" යන අවිද්‍යා මූල පටිච්චසමුප්පාද පද වැලෙහි "සං - භව" හටගන්නා ආකාරය මෙතැනදීද පෙන්වා දී ඇත. "සං" වලින් මිදී නිදහස් වීමට නම් කුණු සළාහැර කෙළෙස්වලින් මිදී නිදහස් වීමේ ප්‍රතිපත්තියම භාවිතා කර "භාවනා පරිපූරං" තත්ත්වයට පත්වීම මෙහිදීද පෙන්වා දී ඇත. මෙතන "කුසලා" ධම්මා යැයි පෙන්වා දුන්නේ පින්කම් කිරීම නොවේ. රාග, ද්වේෂ, මෝහ ගති සියල්ලම සළාහැර ඉවත් කිරීමයි. "පුඤ්ඤ පාප පහීනස්ස" යනුවෙන් ධර්මයේ පෙන්වා වදාළේ පින් පව් දෙකම සළාහැර මිදී නිදහස් විය යුතු නිසයි. අරිය අෂ්ටාංගික මාර්ගයේ පෙන්වා වදාළ මේ අවස්ථා අටෙහිදීම කළ යුත්තේ ලෝකෝත්තර අරිය මාර්ගය උපදවා ගැනීමට අවශ්‍ය කුණු, කෙළෙස් සළාහැර චිත්තසංථානය පිරිසිදු කර ගැනීමට නිවැරදි මාර්ගයම භාවිතා කිරීමයි. මෙතරම් පිරිසිදුවත්, පැහැදිළිවත් නිවන් මඟ පෙන්වා වදාළ වෙනත් තැනක් මුළු ත්‍රිපිටක ධර්මයේම නැතැයි කීවොත් එය සත්‍යයකි.

මහාචත්තාරීසක සූත්‍ර දේශණාව කොතරම් ගැඹුරු සූත්‍ර දේශණාවක් ද කියතොත් ත්‍රිපිටකයේ මජ්ඣිම නිකායේ අනුපද වර්ගයේ එන මෙම පාලි පාඨ සිංහලට පරිවර්තනය කිරීමේදී පරිවර්තකයින්ට මෙහි අර්ථය දැක ගන්නට නොහැකි වී වැරදි ලෙසින් පරිවර්තනය කිරීමෙන්ම මෙහි ගැඹුරු බව පැහැදිළිය. මහාචත්තාරීසක සූත්‍රයේ අවසානයේ දක්වා ඇති පාඨ කිහිපයක්ම නිවැරදි කර සිංහල බසින් පෙන්වා දිය යුතුය.

"යෝ හි කොචි භික්ඛවේ, සමණෝ වා බ්‍රාහ්මණෝවා
ඉමං මහාචත්තාරීසකං ධම්මපරියායං ගරහිතබ්බං

පටික්කෝසිතබ්බං මඤ්ඤෙය්‍ය, තස්ස දිට්ඨෙව ධම්මේ
දස සහධම්මිකා වාදානුවාද ගාරයිහං ඨානං ආගච්ඡන්ති"

මෙහි තේරුම, ''මහණෙනි, යම් මහණෙක්, ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ වෙනත් යම් කෙනෙක් හෝ මෙම මහාචත්තාරීසක ධර්ම ක්‍රමය ධර්ම පරියාය නිසි පරිදි තේරුම් නොගෙන මෙය ප්‍රතික්ෂේප කළයුතු, ගැරහිය යුතු, අත්හැරිය යුතු, තේරුමක් නැති එලක් නැති දෙයක් යැයි සිතා කටයුතු කරමින් ධර්මය විකෘති කරන්නේ නම් මෙළොවදීම ඒ තැනැත්තාට දස ආකාර වූ ගැරහුම් ලබන්නට හේතුවන පාප ධර්මයක් සිදු කරගත්තා වෙයි. එවන් කෙනෙකුට නිවන නොපිහිටන්නේමය"

ඊළඟට ගෙනහැර දක්වා ඇති පාඨය ඉතාම වැදගත්ය. නමුත් මේ පාඨයන් සියල්ලම සිංහල භාෂාවට පරිවර්තනය වීමේදී අර්ථය කණපිට පෙරළාගෙන මහා සාගරයක අතරමං වූවන් බවටම පත් වී අර්ථ දක්වා ඇති බව පෙනේ.
"සම්මාදිට්ඨිං චේ භවං ගරහති. යේ ච මිච්ඡාදිට්ඨී
සමණබ්‍රාහ්මණා, තේ භෝතෝ පුජ්ජා තේ භෝතෝ පාසංසා
සම්මාසංකප්පං චේ භවං ගරහති. යේ ච මිච්ඡාසංකප්පා
සමණබ්‍රාහ්මණා, තේ භෝතෝ පුජ්ජා, තේ භෝතෝ පාසංසා"

මේ ආකාරයට අරිය අෂ්ටාංගික මාර්ගයේ අංග අටක් හා සම්මා ඥාණ, සම්මා විමුක්ති යන අංගයන් ගැනත් ප්‍රකාශ කර ඇත. මෙහි තේරුම යමෙක් ලෝකෝත්තර නිවන් මාර්ගය වූ උතුම් ලෝකෝත්තර සම්මා දිට්ඨිය බොරුයි කියා ගරහයි ද ඔහු මිත්‍යා දෘෂ්ඨිගත වූ ශ්‍රමණ බ්‍රාහ්මණයෙකුම වෙයි. එවැනි ශ්‍රමණ බ්‍රාහ්මණයෙකුට පූජ්‍යත්වයෙන් සැළකීම හෝ ප්‍රශංසා කිරීම අභව්‍ය වේ. නොකළ යුතු වේ. ඒ ඔහු බුදුපියාණන් පෙන්වා වදාළ ලෝකෝත්තර නිවන් මඟ බොරු යැයි කියා පෙන්වා දෙන අභ්‍යව්‍ය යැයි පෙන්වා දෙන අනුන්ගේ නිවන් මඟද වසා, අසුරා දමන කෙනෙකු නිසයි.

සැළකිය යුතුයි ඃ- ත්‍රිපිටකයේ මේ පාඨය සිංහලයට පරිවර්තනය කර දක්වා ඇත්තේ මෙසේය. ඉදින් භවත් සම්‍යක් දෘෂ්ඨිය ගරහා නම් යම් මිසදුටු ගත් මහණ බමුණු කෙනෙක් ඇත්ද, ඔහු භවතුන් විසින් පූජ්‍යයෝ වෙති. ඔහු භවතුන් විසින් පසැස්ස මනා වෙති" යනුවෙනි.

මෙයින් කියැවෙන්නේ "සම්මා දෘෂ්ඨිය ගරහයි නම්, ඔහු පූජ්‍යයෙකු වෙයි. ප්‍රශංසා කළ යුතු වෙයි", යන්නයි. එසේ නම් මෙය කොතරම් මුසාවක්ද යන්න සළකා බැලිය යුතුය. මෙයට හේතුව "භෝතෝ" යන මාගධී ශබ්ද සංඥාව නිවැරදිව පරිවර්තනය නොකිරීමයි. "භෝතෝ" යනු සත්‍යයෙන් තොර අභව්‍ය, නුසුදුසු, නොගැළපෙන යන අර්ථයයි. එවන් නොගැළපෙන, නුසුදුසු කෙනෙකු පිදීමට හෝ ප්‍රසංසා කිරීමට නොවටිනා බව මෙහි නිවැරදි අර්ථය වන්නේය.

මහා චත්තාරීසක සූත්‍රය අද ධර්ම දේසකයින් කවුරුවත් ධර්ම දේශණාවකදී භාවිතා නොකරයි. එයට හේතුව මෙම සූත්‍ර දේශණාවෙන් පෙන්වා වදාළ උතුම් ධර්මය තේරුම්

ගන්නට නොහැකි ලෙසම යටපත් වී ඇති නිසයි. පටිච්චසමුප්පාද ධර්මය තුළ ඇති තිපරිවට්ටයම - එනම්,

1. අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්මයේ බැඳුනොත් අවිද්‍යාමූල "සං" උපත ලබන්නට හේතුවන බවත්,
2. අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධර්ම නිරෝධ කර සං උපත නිර් - උදා කළ හැකි බවත්,
3. කුසල මූල පටිච්චසමුප්පාද ධර්මය භාවිත කර සං උපත ලබන කුණු මුල් ගළවා දමා චිත්තසංථානය පිරිසිදු කරගත හැකි බවත් තේරුම් නොගත් කෙනෙකුට මෙම චත්තාරීසක සූත්‍ර දේශණාවෙන් බුදුපියාණන් පෙන්වා වදාළ තිපරිවට්ටයම තේරුම් ගැනීමේ හැකියාවක්ද නැත. එනම්,

i. මිච්ඡා දිට්ඨිය, මිච්ඡා දිට්ඨිය බවත්, සියලු "සං" උපදවන්නේ මිච්ඡා අංගයන් භාවිතා කිරීම නිසාම බවත්
ii. මිච්ඡා අංගවලින් වෙන් වී, නිදහස් වී ලෞකික සම්මා අංග භාවිතා කළහොත් සිදුවන්නේ අයහපත් පැවැත්මෙන් ඉවත් වී යහපත් පැවැත්මක් කරා පැමිණීම බවත් එයද නිවන නොවන බවත්,
iii. නිවනට උපකාර වන අරිය ධර්මය, අරිය සිතුවිල්ල, අරිය මාර්ගය වන්නේ යහපත්, අයහපත්, හොඳ, නරක සියලුම ලෞකික තත්ත්වයන්ගෙන්ද මිදී නිදහස් වන අරිය  සම්මා ප්‍රතිපදාව බවත් නිවැරදිවම තේරුම් ගැනීමෙනි.

ආගමක් භක්තියෙන් අදහන කෙනෙකුට මේ තිපරිවට්ටයම පහසුවෙන් තේරුම් ගත නොහැකියි. "අදහනවා" යන්න මේ ලෞකිකත්වය තුළම ඇති යහපත්, නිවැරදි හොඳ දේ කෙරෙහි විශ්වාස තබා ඒවා ලබා ගැනීමේ බලාපොරොත්තුවෙන්ම කරන, කියන, හිතන සංඛාර පැවැත්වීමයි. නිවන යනු සියලු සංඛාරයන්ගෙන් තොරව කාර සිත් පමණක් කරන එනම් ක්‍රියා සිත් පමණක් පැවැත්වීමකි.

අරහතුන්වහන්සේ කිසිවක් එකතු නොකරයි. කිසිවක රස විඳීමක් නොකරයි. කිසිවකින් කය රමණය නොකරයි. ලාභ ලැබීමේ කිසිම පර්යේෂණයක් නොකරයි. එවන් සිතුවිල්ලක් නොපවත්වයි. රටක් අල්ලා ගැනීමේ බිමක් අල්ලා ගැනීමේ (සංභවං) ක්‍රියාවන් නොකරයි. කිසිම ආකාරයක රඟපෑමක් නොකරයි. මේ නිසා කිසිම සංඛාරයක් නොකරයි. සං+කාර යනු එකතු කරන්නට කරන ක්‍රියාකාරකම් යන තේරුමයි. "සම්මා" යනු ඉහත දැක් වූ රම, රස, රඟ, රට, රජ, රති යන එකතු කිරීමේ ගති ලක්ෂණයන් හයෙන්ම මිදී නිදහස් වූ යන තේරුමයි. මේ ගති හය නිසාම ගති හයට අදාළ දේ එකතු කිරීම සඳහාම සියලු පෘථග්ජන සත්ත්වයා ජීවත් වෙති. එය සංසාර පැවැත්මයි. එයම සංසාර පුරුද්දයි.

මහාචත්තාරීසක සූත්‍ර ධර්මයෙන් විග්‍රහකර පෙන්වා වදාළ ධර්මයේ සාරාංශයක් මෙසේ ඉදිරිපත් කළ හැකිය.

අෂ්ටාංගික මාර්ගය තුන් ආකාර වූ තිපරිවට්ටයක් සහිතය.

1. මිච්ඡා අෂ්ටාංගික මාර්ගයයි.

2. ලෞකික අෂ්ටාංගික මාර්ගයයි.

3. අරිය අෂ්ටාංගික මාර්ගයයි.

i. අපායට යන්නට, දුගතියට පත්වන්නට, දුක් විඳිමින් තිරශ්චීන ගතිවලට පත්වන්නට හේතුවන මිච්ඡා දිට්ඨියේ පටන් මිච්ඡා සමාධිය තෙක් විස්තර කරදුන් අංග අටයි.

ii. අපායෙන් මිදී, සුගතියට පත්වන්නට ලෞකිකත්වය තුළින්ම විඳගත හැකි ලෞකික සැප සම්පත් ලබන්නට උපකාර වන සම්මා දිට්ඨියේ පටන් සම්මා සමාධිය දක්වා අංගයන් අටයි. හොඳ, යහපත් නිවැරදි දැකීම ලෙසින් අද බුද්ධාගමේ අෂ්ටාංගික මාර්ගය ලෙසින් පෙන්වා දෙන්නේ මේ සම්මා අංගයන් අටයි.

iii. අරිය අෂ්ටාංගික මාර්ගය බුදුපියාණන් දේශණාකර වදාළ පෙන්වා වදාළ නිවන් මාර්ගයට උපකාර වන ලෝකෝත්තර අරිය අෂ්ටාංගික මාර්ගයයි. මේ උතුම් අෂ්ටාංගික මාර්ගය නිවැරදිව පෙන්වා දිය හැකි නිවැරදිව විග්‍රහ කර මිනිසුන්ට පැහැදිළිකර දියහැකි අය අද ඉතාම විරලය. අද මේ මාර්ගය සම්පුර්ණයෙන්ම වාගේ වැසී, යටපත් වී ගොස් ඇත.

බොහෝමයක් බෞද්ධ උගතුන් සිතා සිටින්නේත් විග්‍රහකර පෙන්වා දෙන්නේත් අරිය අෂ්ටාංගික මාර්ගය යැයි වැරදියට අර්ථ දක්වන්නේත් ලෞකික අෂ්ටාංගික මාර්ගයයි. මෙහි දෙවැනි පියවර ලෙසින් සඳහන් කළ මේ ලෞකික අෂ්ටාංගික මාර්ගය දැන ගැනීම හෝ සම්පූර්ණ කර ගැනීම හෝ කිසිසේත්ම නිවන නොවේ. එය සංසාරයේ අතරමං වන, සැපයට මුළා වී, දුක් උරුම කර ගන්නා ස්වරූපයේ ලෞකික අෂ්ටාංගික මාර්ගයයි. මධ්‍යම ප්‍රතිපදාව යනුවෙන් අද අදහස් කරන මැද මාවතද මෙයටම ගැළපෙන ලෙසින් පසුව සාදා සකස් කරගත් එකකි. මේ බව බුදුපියාණන් දේශණා කර පැහැදිළිවම පෙන්වා වදාරා ඇත. අද භාවිතයේ පවතින බෞද්ධ උගතුන්, විද්වතුන් දන්නා අනුගමනය කරන්නට යැයි ලෝකයාට අනුදැන වදාරණ ඒ මැද මාවත, ලෞකික සම්මා අෂ්ටාංගික මාර්ගයට ගැළපෙන ලෙසම සීල, සමාධි යන අංග දෙකද වෙනස් කරගෙන අද භාවිතා කරයි.

මේ නිසා අද භාවිතාවන, භාවිතයේ පවතින බුද්ධාගමේ අරිය අෂ්ටාංගික මාර්ගයක් නැත. මජ්ඣිමා පටිපදාවක් ද නැත. අරියකාන්ත සීලයක්ද නැත. අරිය සමාධියක්ද නැත. ඒ නිසා අරිය මාර්ගයක්ද නැත. මේවා භාවිතයේ නැති විටක අරිය උත්තමයෝ බිහිවන්නටද හේතුවක් නැත.

## චතු අරිය සච්චයන්

ලොව්තුරා බුදුපියාණන්වහන්සේලා ස්වයංභූ ඥාණයෙන්ම සොයා දැන, අඩු වැඩි නැතිවම ලෝකයාට දේශණා කරනු ලබන අරිය සත්‍යයන් සතරකි.

කවුරුත් අසා ඇති පරිදි, දන්නා පරිදි මේ අරිය සත්‍යයන් හතර නම්,

1. දුක්ඛ අරිය සත්‍යය

2. දුක්ඛ සමුදය අරිය සත්‍යය
3. නිරෝධ අරිය සත්‍යය හා
4. නිරෝධගාමී මාර්ග අරිය සත්‍යය යනුවෙන් හඳුන්වයි.

මේ අරිය සත්‍යයන් හතර ම මීට වඩා සරළ සිංහල බසින් විග්‍රහ කරනවා නම්,

1. පැවැත්ම (රිය)
2. පැවැත්වීමට හේතුව (රිය ගමන) - දිගටම පවත්වාගෙන යාම
3. නැවැත්ම (අරිය) රිය ගමන අත්හැර අවසන් කිරීම
4. නැවැත්වීමේ මාර්ගය යනුවෙන් විග්‍රහ කළ හැකිය

1. පැවැත්ම යනු "තථමේතං" යනුවෙන් විග්‍රහ කළ තුන් ලෝකයක පැවැත්මයි. කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක යන තුන් ලෝකයේ පැවැත්මයි. තම පැවැත්මට හේතු වූ, නිදාන වූ, ප්‍රත්‍ය වූ කිසියම් ක්‍රියාකාරකම් කොටසක් ඇති බව තමන්ට තේරුම් ගන්නට නොහැකි වන තාක් මේ ක්‍රියාකාරකම් සියල්ල තමන්ම කරන, කියන, හිතන දේ බව තේරුම් නොගන්නා තාක් "දුක්ඛ අරිය සත්‍යය'' අවබෝධ නොවීමයි. තමන් තුළම පවතින තමන්ම හුරු පුරුදු කරගත් උපාදානය කරගැනීමේ "ගති" පිරිසිඳ දැක ගැනීම, දුක පිළිබඳව අරිය සත්‍යයන් පිරිසිඳ දැක ගැනීමයි. (පරිඤ්ඤාතං - පරිඤ්ඤෙයියං) ප්‍රිය, අප්‍රිය ගති දෙකම සිඳ දමා උපේක්ඛා සිතක් පැවැත්වීමට පුරුදු වීම පංචස්කන්ධයම උපාදානය කරගැනීමෙන් නිදහස් වීමට මාර්ගයයි.

2. පවත්වාගෙන යාම යනු හේතුඵල පරම්පරාවක් එක දිගටම පවත්වාගෙන යන්නට උපකාර වන හේතූන් දිගින් දිගටම අඛණ්ඩවම බිහි කරගෙන යාමයි. සමුදය අරිය සත්‍යයද නිවැරදිවම අවබෝධ කරගන්න නම් සං+උපත ලබන්නේ තම චිත්තසංථානයේදීම බවත් තේරුම් ගෙන "සං" ප්‍රහාණය කර ඉවත් කළ හැකි බවත් "සං" නිරෝධ කළ හැකි බවත් තේරුම් ගැනීමයි. සංසාර රිය ගමන නොකඩවාම දිගටම පවත්වාගෙන යන්නේ "සමුදය" බිහිවන නිසාමය. මේ රිය ගමන අරිය කිරීමට නම් රිය ගමන නැවැත්වීමට නම් සමුදය ප්‍රහාණය කළයුතු බව දැන තේරුම් ගෙන "පහාතබ්බංච පහීණං" කිරීම සමුදය අරිය සත්‍යය අවබෝධ වීමයි.

3. පැවැත්මේ නැවැත්ම නිරෝධ අරිය සත්‍යයයි. මේ පැවැත්ම දිගින් දිගටම නොකඩවාම රිය ගමනක් සේ පවත්වාගෙන එන්නට උපකාර වූ සමුදයම නිරෝධ කර අනුත්පාද තත්ත්වයට පත්කර ගැනීම නිරෝධ අරිය සත්‍යාවබෝධයයි. මෙය ''සච්ඡිකිරියාච - සච්ඡිකරෝති'' යනුවෙන් පෙන්වා වදාළ සාක්ෂාත් කරගත යුතු දෙයකි. එනම් අනුත්පාද නිරෝධය ප්‍රත්‍යක්ෂ වශයෙන් සාක්ෂාත් කර ගැනීම නිරෝධ අරිය සත්‍යාවබෝධයයි. ඒ සඳහා "සං" දැක සං+උදය වීම දැක, "සං" නිරෝධ කළ යුතුමය. "යං කිඤ්චි සමුදය ධම්මං, සබ්බන්තං නිරෝධ ධම්මං" බව දැකගත යුතුය.

4. නැවැත්වීම මාර්ග ප්‍රතිපදාවයි. සංසාර රිය ගමන අරිය තත්ත්වයට පත්කර මතු

නැවත නූපදින ලෙසින්ම රිය ගමන නවතා දැමීමට ඒ රිය ගමන පැවැත්වීම සඳහා උපකාර වූ හේතු සියල්ලමත් අනුත්පාද වශයෙන්ම සිඳ දැමිය යුතුය. පැවැත්ම සඳහා උපකාර වූ, රිය ගමනට හේතු වූ මූලික ගති වන රාග ගතිය, ද්වේෂ ගතිය සහ මෝහ ගතිය මුලින්ම සිඳදමා අරිය තත්ත්වයට පත්වන්නට නම් කිසියම් නියත ප්‍රතිපදා මාර්ගයක් ක්‍රියාත්මක කළ යුතුය. මේ නිසා නිරෝධගාමී මාර්ග ප්‍රතිපදා අරිය සත්‍යය "භාවේතබ්බංච භාවිතං" යනුවෙන් පෙන්වා වදාළහ. මේ අනුව සතර වන අරිය සත්‍යය නිරතුරුවම භාවිතා කළ යුතු භාවිතයට හුරු පුරුදු කරගෙන පුහුණු කරගත යුතු ප්‍රතිපත්ති මාර්ගයකි.

| | | | |
|---|---|---|---|
| 1. | දුක්ඛං අරිය සච්චං | - | පරිඤ්ඤාතං පරිඤ්ඤෙයියය |
| 2. | සමුදයං අරිය සච්චං | - | පහාතබ්බංච පහීණං |
| 3. | නිරෝධ අරිය සච්චං | - | සච්ඡිකා තබ්බංච සච්ඡිකරෝති |
| 4. | නිරෝධගාමී මග්ග අරිය සච්චං | - | භාවේතබ්බංච භාවිතං |

මේ අනුව මේ අවස්ථා හතරේම වෙන වෙනම දැන හඳුනාගත් ක්‍රියාකාරකම් හතරක් වෙන් කොට පැහැදිළිවම විග්‍රහකර ඇත.

1. සංසාර රිය ගමන දිගින් දිගටම පවත්වන්නට උපකාර වන හේතු පිරිසිඳ දැන අවබෝධ කර ගත යුතුයි. දුක යනු "ඵලයකි" "විපාකයකි." "දුක විඳවන්නකි" යන්නද තේරුම් ගත යුතුයි. මේ දුක විඳින්නට මුල්වන හේතුව පැවැත්ම බව, පිරිසිඳ දුක තේරුම් ගැනීම අවබෝධ කරගැනීම දුක්ඛ අරිය සත්‍යාවබෝධයයි. රිය අරිය තත්ත්වයට පත්කර ගන්නට උපකාර වන පළමුවන අරිය සත්‍යය දුක පිරිසිඳ දැන දුක දැක ගැනීමයි. එනම් ප්‍රිය, අප්‍රිය යන අන්තගාමී ගති තමන් ළඟම ක්‍රියාත්මකව පවතින තුරාවටම දුක උරුම වන බවත්, ප්‍රිය අප්‍රිය ගති සිතින් ඉවත් කර සිඳ දමා, උපේක්ඛා සිතින් සෑම දෙයක් දෙසම ඉවසා, විමසා බලන්නට, දකින්නට, හිතන්නට පුරුදු වීමෙන්ම, උපාදානය කරගත් සියල්ලෙන්මත් නිදහස් වී, රිය අරිය තත්ත්වයට පත්කරගත හැකි බවත් අවබෝධ කරගැනීම දුක්ඛ අරිය සත්‍යාවබෝධයයි.

2. මේ ජීවිත පැවැත්ම දිගින් දිගටම පවත්වා ගැනීමට උපකාර වන එකම සාධකය ශක්තිය සමුදය ශක්තියයි. සමුදය යනු සං+උදය වීමයි. සමුදය බිහි වන්නේම සිතක පවතින කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා නිසාමය. රාග, ද්වේෂ, මෝහ යන ගති තුනම මේ කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා යන්නෙහි අඩංගුය. තණ්හාව නිසාම අවිද්‍යාවද සිතක උපත ලබා මෝහයෙන් මනස විකෘත කර මිච්ඡා දෘෂ්ඨියට ද පුද්ගලයාව පත් කරවයි.

කාම තණ්හා යනු ඇස, කන, නාසය, දිව, කය, මන ආදී ඉන්ද්‍රියයන් පිනවීමට රමණය කිරීමට යම් තැනක හා වීමයි. කාම තණ්හාවෙන් කරන, කියන, හිතන සියලුම දේ නිසා සිදුවන්නේ ඉන්ද්‍රියන් පිනවීමයි. සතුටු කරවීමයි. සං උත්පාදනය කිරීමත් මෙයමයි.

භව තණ්හා යනු යම් ගතියක්, ගති බවට පත්වීමට තැනක හා වීම භව තණ්හාවයි. පෘථග්ජන පුද්ගලයෙකු තුළ භව තණ්හාව පවතින තුරාවට තුන් ලෝකයම උපාදානය කරගනී. පොහොසත් බව, ධනවත් බව, බලවත් බව, උගත් බව, බුද්ධිමත් බව, රූපවත් බව, නපුරු බව, වෛරී බව, රාග බව, ද්වේෂ බව, මෝහ බව ආදී සියලු "ගති" භව තණ්හාව නිසා සිතකම උත්පාදනය වෙයි. යම් බවකට පත්වීමේ ආශාව, කැමැත්ත භව තණ්හාවයි. මේ බවට පත්වීම නිසාද සං උපත ලබයි.

විභව තණ්හා යනු යම් තත්ත්වයකට, බවකට පත් වූ පසුව ඒ බව, ඒ තත්ත්වය, දිගින් දිගටම පවත්වාගෙන යාම සඳහා කරන කියන හිතන ක්‍රියාකාරකම් කිරීමයි. විභව තණ්හාව බොහෝ විටම ද්වේෂය, වෛරය, ව්‍යාපාදය ආදී ගති ලක්ෂණයන් නිසාම සිතක ඇති කරවයි. කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා යන තුනම පුද්ගලයාගේ සිතක ඉතා කෙටි කාලයක් තුළදී පවා ඇති වන ගති තුනකි. මෙය උදාහරණයකින් පැහැදිළි කරගත යුතුයි.

පුද්ගලයෙකු තමන්ගේ පැවැත්ම සඳහා කය රමණය කිරීමට, ඉන්ද්‍රියයන් පිනවීමට කරන, කියන, හිතන දේ, කාම තණ්හා කොටසට අයත්ය. ඒ පුද්ගලයාම රජ බවට පත් වන්නට සිතා, ඒ සඳහා කරන, කියන, හිතන සියලුම දේ "භව" තණ්හාව නිසාම රජ බවට පත් වීමට තණ්හාවෙන්ම කරන ක්‍රියාවන්ය. එසේ රජු බවට පත් වූ පුද්ගලයා තමා උපාදානය කරගත් තණ්හාවෙන් අල්ලාගත් "රජබව" දිගටම දිවි ඇති තෙක්ම පවත්වා ගෙන යන්නට කරන, කියන, හිතන බොහෝමයක් දේ විභව තණ්හාවෙන්ම කරන දේය. විභව යනු පත් වූ තත්ත්වයෙන් වෙන් වීමට, අල්ලාගත් දේ අතහැරීමට ඇති අකැමැත්ත, භය නිසා කරන කියන දේය. රජ යුද්ධ කරන්නේ, මිනිසුන් මරන්නේ, නීති පනවන්නේ, හිරගෙයි, දඟගෙයි, මිනිසුන් දමන්නේ, රජ අණට මිනිසුන් අවනත නොවීම නිසාය. රජ බව අහිමි වේය, තම බලය නැති වේය යන භයෙන් ද්වේෂයෙන් කරන, කියන, හිතන මෙවන් සියලු දේ විභව තණ්හාව නිසාම සිදු කරයි. මේ විභව තණ්හාව රජට පමණක් නොව හැම පෘථග්ජන පුද්ගලයා තුළම පවතී. තමන් ලබා උපන් මිනිස් ජීවිතය නැති වී, මරණයට පත්වේය යන මරණ භය, දුක ඇති වන්නේ විභව තණ්හාව නිසාමය. මරණයෙන් බේරෙන්නට කරන සියලු දේ විභව තණ්හාව නිසාම කරයි.

මේ අනුව බොහෝ අට්ඨකථාකරුවන් තම පොත්වල ලියා පෙන්වා දී ඇති පරිදි විභව තණ්හා යනු දේව, බ්‍රහ්ම ආදී අරූපී තලවල උපදින්නට ඇති ආශාව, තණ්හාව පමණක් නම් නොවේ. මේ ජීවත්වන මොහොතේදීම ඇති වන තණ්හාවකි. පවත්වාගෙන යන ජීවිතයෙන් වෙන්වීමට ඇති අකැමැත්ත "විභව" තණ්හාවයි.

රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන්, කාම තණ්හාවෙන්, භව තණ්හාවෙන් හා විභව තණ්හාවෙන් උපාදානය කර අල්ලා, සිතින්ම සාදා සකස් කරගෙන, පවත්වා ගෙන යන තුන් ලෝකයම සාරවත්ය, වටිනවාය, මිහිරිය, ප්‍රියය යනුවෙන් සිතින්ම ඇති කරගත් මුළා දෘෂ්ඨිය, මිච්ඡා දෘෂ්ඨියයි. වැරදි දැක්මයි. මේ "සංසාර රිය ගමනට" හේතුව, මේ මුළා දැක්මයි. සියලු දුක් විඳින්නට හේතුවද මේ මුළා දැක්මෙන් තණ්හාවෙන්ම කටයුතු කිරීමයි. "සං" පිළිබඳව හෝ "සං" උපදින ආකාරය හෝ නොදැකීමයි. "ධම්මෝ සංදිට්ඨිකෝ"

නොවීමයි.

3. සමුදය නිරෝධ කළ හැකි බව, සමුදය නිරෝධ කළ යුතු බව, ඊට ක්‍රමවේදයක් ඇති බව, තේරුම් ගතහැකි වන්නේ අරිය තත්ත්වයට පත් වීමෙන්මය. "සං" දක නොගත් පුද්ගලයෙකුට සමුදය වීම, තම චිත්තසංථානය තුළින්ම බිහිවන, උත්පාදනය වන දෙයක් බව නොදන්නා කෙනෙකුට සමුදය නිරෝධ කිරීම කළ නොහැකිය. සමුදය දක සමුදය නිරෝධ කළ හැක්කේ "සම්මා දිට්ඨියට" පත් වූ කෙනෙකුටම පමණි. එනම් "ධම්මෝ සංදිට්ඨිකෝ" යනුවෙන් පෙන් වූ අරිය ධර්මය යථාපරිදි අවබෝධ කරගත් "සං" වලින් මිදී නිදහස් වීමේ ශාන්තිය, නිරාමිස සුවය දකගත්, සම්මා දිට්ඨියට පත් වූ කෙනෙකුටමය. මේ අනුව නිරෝධ අරිය සත්‍යය සාක්ෂාත් කරගත යුතු ශාන්ත බවට, ප්‍රණීත බවට පත්වන්නට උපකාර වන ධර්මයයි. "නිරෝධ" යනුවෙන් අදහස් කළේ නැති කිරීමක් නොවේ. "නිර්උදා" යන්නයි. "නිර් උදා" යනු අනුත්පාද යන අර්ථයයි. සමුදය අනුත්පාද වශයෙන් නිරෝධ කිරීම මඟින් මිස වෙනත් ක්‍රමයකින් සංසාර පැවැත්ම නැවැත්මක් බවට පත්කර ගත නොහැකිය. පැවැත්ම දිගින් දිගටම පවත්වාගෙන යාම සංසාර රිය ගමනයි. පැවැත්ම නම් වූ රිය, දිගින් දිගටම ගමන් කරවීමට උපකාර වන්නේ සමුදය ශක්තියයි. මේ රිය ගමන නැවැත්වීමට නොවරදින හා එකම ප්‍රතිකර්මය නම් බිහිවන සමුදය ශක්තිය අනුත්පාද වශයෙන්ම නිරෝධ කිරීමයි. එනම් සමුදය උපත ලබන මුල් සිඳ දැමීමයි. රාග මුල, ද්වේෂ මුල, මෝහ මුල යන සමුදය උත්පාදනය වන මුල් සිඳ දමා මුළින්ම උගුල්ලා දැමීම අවසාන සත්‍යය වූ නිරෝධගාමී මාර්ග අරිය සත්‍යයි.

4. "යං කිඤ්චි සමුදය ධම්මං සබ්බත්තං නිරෝධ ධම්මං" යන මාගධී පදවලින් මේ අදහස මොනවට පැහැදිළි කරයි. චිත්තසංථානයේ උපදින යම් සමුදය ධර්මයක් ඇද්ද ඒ සියල්ලම අනුත්පාද ලෙසින්ම නිරෝධ කළ යුතු, නිරෝධ කළ හැකි ධර්මයෝය. ඒ සඳහා "සම්මා දිට්ඨියටම" පත් වී ඊළඟට අනෙක් "සම්මා" අංගයන් ද සම්පූර්ණ කරගත යුතුය. මේ සඳහා පහසුම, සරළම නොවරදින එකම මාර්ගය සතර සතිපට්ඨාන භාවනා ක්‍රමයයි. සතර සතිපට්ඨාන භාවනා ක්‍රමයේ පෙන්වාදුන් අවස්ථා හතරම එනම් කායේ කායානුපස්සනාව, වේදනාසු වේදනානුපස්සනාව, චිත්තේ චිත්තානුපස්සනාව හා ධම්මේසු ධම්මානුපස්සනාව අනුපූරක ලෙසින් භාවිතාකර ඒ ඒ අරමුණු සිතට ලැබෙන හැම මොහොතේම අනාපාන ක්‍රමවේදය භාවිතා කළ යුතුයි. සතියෙහි පිහිටා කටයුතු කරන්නට සිත පදම් කර ගැනීම "භාවේතබ්බංච භාවිතං" යනුවෙන්ද පෙන්වා දුන් අරිය මාර්ග ප්‍රතිපදාවයි. මේ අනුව සතියෙහි පිහිටා සතියෙන් කටයුතු කරන පුද්ගලයෙකු නිතරම අරිය මාර්ගයේ යන, අරිය ධර්මය අවබෝධ කරගත් අරිය ප්‍රතිපදාවම අනුගමනය කරන්නෙකි. මේ නිසාම අරිය සත්‍යයන් අවබෝධ කරගත් අරහතුන් වහන්සේ කෙනෙකු බවටද පත්වෙන්නේමය.

අද සිංහල බෞද්ධයා පොතපතින් කියවා අසා දන, කටට හුරුකරගත් පදයක් වන්නේ "ආර්ය" යන සංස්කෘත පදයයි. "ආර්ය සත්‍යයන් හතර, චතුරාර්ය සත්‍යය, ආර්යන් වහන්සේ, ආර්ය සීලය, ආර්ය සමාධිය" ආදී වශයෙන් හැම කෙනෙකුම අසා දන, කටට හුරු වූ "ආර්ය" යන පදය, බුද්ධ භාෂිත මාගධී (පාලි) පදයක් නොවේ. එය සිංහල වචනයක් ද නොවේ. එය සංස්කෘත භාෂාවේ එන පදයකි. මේ සංස්කෘත පදයන්ට අර්ථ, ධර්ම, නිරුක්ති හෝ පටිභාන පටිසම්භිදා විග්‍රහයන් ඉදිරිපත් කරන්නටද නොහැකිය.

මේ ලෙසින් බෞද්ධ ලෝකයා අද වැරදි ආකාරයට භාවිතා කරන නමුත්, කටට හුරු "ආර්ය" යන වැරදි පදය මාගධී බුද්ධ භාෂිතයේ වදාළ "අරිය" යන උතුම් අර්ථයෙන් ගෙනහැර දක්වන පදයේ අර්ථය, ධර්මය මතුකර දෙන්නේ නැත. "අරිය" යන මාගධී පදයේ අර්ථය රිය අත්හැරීම, (අ+රිය) රිය ගමන අවසන් කිරීම යන අර්ථයයි. රිය යනු ගමන් කරන්නට උපකාර වන දෙයයි. "අනරිය" යන්නද රිය ගමන අත්හරින්නට නොහැකිව ගමන දිගටම පවත්වා ගැනීමයි. (අ+න+රිය) ඒ අනුව අනරිය (රිය) අරිය තත්ත්වයට පත්කර ගැනීමෙන් සංසාර ගමන නිමාකොට පැවැත්ම අවසන් කරගෙන අපැවැත්මක් බවට පත්කරගත හැකි වන්නේ අරිය ධර්මය අවබෝධ කරගැනීමෙන් පමණි. "ආර්ය" යන සංස්කෘත පදයෙන් මෙය සම්මතයක් ලෙසින් භාවිතයේ පවත්වාගෙන ආවත් එය "පදපරම" අදහසක් මිස ඉන් පරමාර්ථ ධර්මයක් ඉස්මතු වන්නේ නැත. මේ නිසා හැම බෞද්ධයෙකුම "අරිය" යන මාගධී පදයේ අර්ථය හා ධර්මය තේරුම් ගෙන අරිය සත්‍යයන් හතර තේරුම් ගත යුතුය.

මේ සඳහාම උපකාර වන මීටම සම්බන්ධ තවත් පදයක් ද මාගධී බුද්ධ භාෂිතයේ ඇත. එනම් "විරිය" යන පදයයි. "වි" යන්නෙන් අදහස් කළේ වෙන් කිරීමයි. කැමැත්තෙන්, අවබෝධයෙන් යමකින් වෙන්වීම, වෙන් කිරීම යන අර්ථයයි, "විරිය" යන පදයේ රිය, අරිය තත්ත්වයට පත්කර ගන්නට උපකාර වන අත්හැර ප්‍රහාණය කර දමා, වෙන්වීම විරිය අර්ථ ගන්වා පෙන්වයි. මේ අනුව "අනරිය (රිය) විරිය, අරිය" යන්න මෙහි තිපරිවට්ටයයි. රිය තත්ත්වයෙන් අරිය තත්ත්වයට පත් වෙන්නට නම් "විරිය" අත්‍යවශ්‍යයෙන්ම පවත්වාගත යුතු ගුණයකි. විරිය ඉන්ද්‍රියය, විරිය සම්බොජ්ජංගය, සම්මා විරිය (සම්මා වායාම) ආදී හැම තැනකදීම මාගධී බුද්ධ භාෂිතයේ එන මේ පදය, "විරිය" මිස වීරිය හෝ වීර්යය යන පදය නොවේ. අද මේ පදයද ව්‍යවහාරයේ භාවිතයේ ඇති පරිදි එහි අර්ථය වීර්යයක් උත්සාහ කිරීමක් සේ වැරදි ලෙසින් අර්ථ ගන්වයි. නමුත් මෙහිදී වෙන් කිරීම, වෙන්වීම, ප්‍රහාණය, පහාතබ්බා, පහාණාති යන පදවලින් ද මාගධී භාෂාවේ පෙන්වා දුන් රිය, විරිය, අරිය යන පදවලින් ද අර්ථ ගැන්වූවකි.

මේ අනුව "ආර්ය, වීර්යය" යනාදිය සංස්කෘත භාෂාවේ එන පද මිස බුද්ධ භාෂිතයේ එන පද නොවේ. බුද්ධ ධර්මය ත්‍රිපිටකය සිංහලයට පරිවර්තනය කළ පරිවර්තකයින් විසින් යොදාගත් වැරදි සංකර පද සමූහයකි. මේවා උතුම් මාගධී බසත්, හෙළ බසත් විකෘත කරමින් සංස්කෘත භාෂාවේ එන බොහෝ වචන අද වන විට සිංහල භාෂාවට ඇතුලු කරගෙන ධර්ම අර්ථයන් විකෘත කළේ ත්‍රිපිටකය සිංහලයට පර්වර්තනය කිරීමේදීය. මාගධී භාෂාවෙන් දේශණා කළ උතුම් නිවන් මාර්ගය, බුද්ධ භාෂිතය අද වන විට සිංහල

බෞද්ධයාට ප්‍රායෝගිකවම තේරුම් ගන්නට, අනුගමනය කරන්නට නොහැකි වන තත්ත්වයට පත් කර ඇත්තේ ත්‍රිපිටකය සිංහලයට පරිවර්තනය කිරීමේ දී යොදාගත් මෙවැනි සංස්කෘත පදයන් නිසාමය. සංස්කෘත භාෂාව සුන්දර භාෂාවකි. නමුත් මාගධී භාෂාව පරමාර්ථ ධර්මය දේශණා කිරීම සඳහාම සකස් වූ බුද්ධ භාෂිතයකි. උතුම් බුද්ධ භාෂිතය ඉදිරිපත් කිරීමට සියලුම බුදුවරයින්වහන්සේලාම භාවිත කළේ මාගධී ශබ්ද සංඥාවන්ය. මේ මාගධී භාෂාවේ එන පදවලට වෙනත් කිසිම භාෂාවක නැති අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාන වශයෙන් අර්ථ නානත්වයක් ඉදිරිපත් කළ හැකිය. එනම් "සිව්පිළිසිඹියා" ශක්තියක් ලබාගත යුත්තේ ලබාගත හැක්කේ පවිත්‍ර මාගධී පද තුළින්ම පමණි. වෙනත් කිසිම භාෂාවක පදවලට මේ ආකාරයේ අර්ථ නානත්වයක්, ධර්ම නානත්වයක්, නිරුක්ති නානත්වයක්, පටිසම්භිදා නානත්වයක් විග්‍රහ කර පෙන්වා දිය නොහැකිය. සිව්පිළිසිඹියා දේශණාවක් කරන්නට නම් මාගධී භාෂාවම උපයෝගී කරගත යුතුය. උතුම් බුද්ධ භාෂිතය ශුද්ධ මාගධී පදවලින් යුක්තය.

දුක්ඛ අරිය සත්‍යාවබෝධය යනු "දුක" නැමැති එලය උරුම වන්නට, උරුම කරගන්නට නිදාන වූ, මුල් වූ, ප්‍රත්‍ය වූ කරුණු නිවැරදිවම අවබෝධ කරගැනීමයි. මෙයම "සංසාර ගැටළුව" පිළිබඳ යථාවබෝධයක් ලැබීමයි. සාරයි, හොඳයි, යහපත්, ප්‍රියයි, මනාපයි"යනුවෙන් පෘථග්ජන ලෝකයා පංචස්කන්ධයම උපාදානය කර ගැනීම "සංසාර" ගැටළුවට එකම හේතුවයි.

මෙසේ උපාදානය කර ගන්නා පංචස්කන්ධයම තමන්ට අයිති දේ නොවේ. ඒවා ස්වභාව ධර්මයටම අයිති "ආපෝ, තේජෝ, වායෝ, පඨවි" යන මූලික සතර මහා ධාතු කොටස්ය. මේ සතර මහා භූතයන් පරිහරණය කිරීමේ හා භාවිතා කිරීමේ අයිතියක් හා හිමිකමක් උපන් හැම සත්ත්වයෙකුටම උරුමයෙන්ම, උපතින්ම ලැබෙයි. නමුත් ඒවා උපාදානය කරගෙන මගේ, මම, මට අයිති වශයෙන් තනි අයිතියට, භුක්තියට වෙන් කර ගැනීමේ හැකියාවක්, බලයක් කාටවත්ම නැත. තමන්ට අයිති නැති, හිමිකරගත නොහැකි මේ සතර මහාභූත උපාදානය කරගන්නා හැම විටකදීම ඒ සත්ත්වයාම, පුද්ගලයාම, දෙවියාම, මාරයාටද ණය වෙයි. ණය ගණුදෙනුවකටද පටලැවෙයි. ණයකරුවෙකු බවටම පත්වෙයි.

මේ ණය ගණුදෙනුවෙන් සහමුලින්ම මිදී නිදහස් වන්නට නම් උපාදානය කරගත් පංචඋපාදානස්කන්ධයම අතහැර "සබ්බූපදි පටිනිස්සග්ග" යන තත්ත්වයටම පත්විය යුතුයි. එනම් උපාදානය කරගන්නටම හුරු පුරුදු වී, සකස් වී පවතින පටි ලෙහා ගළවා දමා බැඳීමෙන්ද නිදහස් විය යුතුය.

"සංයෝජන" යනු පටි දහයකි. මේ පටි දහයම නිසා රිය ගමන යන්නට "මම" කියා කෙනෙකු නැවත නැවතත් නිරන්තරයෙන්ම සකස් කරගනී. පෘථග්ජන පුද්ගලයෙකු ජීවත්වන හැම මොහොතකම කරන්නේ මේ පටි (සංයෝජන) දහයම අලුත්වැඩියා කරගැනීමට, ප්‍රතිසංස්කරණය කරගැනීමට අවශ්‍ය වන සමුදය (සං+උදය) ශක්තිය බිහිකර පටි නැවත නැවතත් සකස් කර ගැනීමයි. සංයෝජන තද කරගැනීමයි. මෙය "සංවට්ට" ක්‍රියාවලියයි.

"යායං තණ්හා පොනොභවිකා" යනුවෙන් ධම්මචක්කපවත්තන සූත්‍රයේ ප්‍රකාශ කර වදාළේ මෙයයි. පොනොභවිකා යනු පුන පුනා, නැවත නැවතත්, නොනවත්වාම, සමුදය බිහි කිරීම යන්නයි. "යායං" යනු එක යායටම, එක දිගටම මේ සමුදය ශක්තිය බිහිකරන ක්‍රමවේදය පෙන්වා දීමයි. රාගයෙන් යමකට ඇලෙන, මත්වන හැම විටම, "සං" උපදී. ද්වේෂයෙන් යමකට ගැටෙන, රත්වෙන, ගිනි ගන්නා හැම විටකම "සං" උපදී. මානයෙන්, මෝහයෙන්, මමත්වයෙන් මුළාවන හැම විටකදීම "සං" උපදී. සං උපත යනු සමුදයයි. මේ අනුව මේ සංසාර රිය ගමන නොනවත්වාම, දිගින් දිගටම පවත්වාගෙන යන්නට උපකාර වෙන එකම ශක්තිය සමුදය ශක්තියයි. රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් කටයුතු කරන තාක්කල් සමුදය බිහිවන නිසා රිය ගමනද දිගටම සිදුවෙයි. සමුදය බිහි වන්නට උපකාරක වූ, නිදාන වූ හේතුවම සොයා දැන සමුදය බිහිවෙන මුල් (සං+උදය+උච්ඡේදනය) සමුච්ඡේදන වශයෙන්ම ප්‍රහාණය කිරීමම අරිය තත්ත්වයට පත්වීමයි. එනම්, "සං" උපදින මුල් සිඳ දමා රාග මුල ගළවා දමා, ද්වේෂ මුල ගළවා දමා, මෝහ මුල ගළවා දමා "සං" උපත ලැබීමේ සියලු මාර්ග වසා දැමීම නිවනයි. එය සමුදය නිරෝධයයි.

මේ අනුව සමුදය අනුත්පාද නිරෝධයම නිවනයි. රිය ගමන අරිය තත්ත්වයට පත්කර ගන්නට නම් සමුදය අනුත්පාද ලෙසම නිරෝධයකර, රිය ගමනට මෙතෙක් කල් සැපයූ ඉන්ධන සහමුලින්ම කපා දැමිය යුතුයි. මෙය සමුච්ඡේදනප්ප්‍රහාණයයි.

හේතුව හා ඵලය යන දෙකම දැක හේතුවම නොකිරීමෙන් ඵලය නොලබන, ඵලය උරුම කර නොගන්නා තත්ත්වයටම පත්වීම නිවනයි. "අනරිය තත්ත්වයෙන් මිදෙන්නට නම් බුද්ධ තත්ත්වයට පත් වන්නට බලාපොරොත්තු වන හැම කෙනෙකුම "අරිය" පර්යේෂණයක් කළ යුතුමයි. ලොව්තුරා බුද්ධත්වයට පත්වන, පසේ බුද්ධත්වයට පත්වන අරහත් බුද්ධත්වයට පත්වන හැම කෙනෙකුම "අරිය පර්යේෂණයක්" කිරීමෙන්ම චතු අරිය සත්‍යයන් අවබෝධ කරගත යුතුය.

ලොව්තුරා බුද්ධත්වයට පත්වන බුදුපියාණන් වහන්සේ කාගේවත් උපකාරයක් නැතිවම ස්වයංභූ ඥාණයෙන්ම, ස්වඋත්සාහයෙන්ම මේ "අරිය" පර්යේෂණ සිදුකර උතුම් "අරිය" සත්‍යයන් හතරම අවබෝධ කර ගනිති. නමුත් අරහත් බුද්ධත්වයට පත්වන සියලුම බුද්ධ ශ්‍රාවකයින්ට අරිය පර්යේෂණ කළයුතු නිවැරදි ආකාරය බුද්ධ දේශණාවෙන් පෙන්වා වදාරා ඇත. උතුම් බුද්ධ දේශණාවෙහි "පණ", ජීවය පවතිනා තුරු, චතු අරිය සත්‍යයන් අවබෝධ කරගෙන සංසාර රිය ගමන නැවැත්වීමට, නිවන් අවබෝධ කරගන්නට මිනිසුන්ට හැකියාව ඇත.

ඉදංබෝ <u>පණ</u> භික්ඛවේ දුක්ඛං අරිය සච්චං

ඉදංබෝ <u>පණ</u> භික්ඛවේ දුක්ඛ සමුදයං අරිය සච්චං

ඉදංබෝ <u>පණ</u> භික්ඛවේ දුක්ඛ සමුදය නිරෝධ අරිය සච්චං

ඉදංබෝ <u>පණ</u> භික්ඛවේ දුක්ඛ සමුදය නිරෝධ ගාමිණී පටිපදා අරිය සච්චං

යනුවෙන් ප්‍රකාශ කළ පාඨයන්හි "පණ" පිහිටුවීම මැනවින්ම ප්‍රකාශ කර වදාරා ඇත. "පණ" පිහිටුවීම යනු රිය, අරිය තත්ත්වයට පත් කිරීමයි.

මේ අනුව සදාකාලික වූ, අකාලික වූ චතු අරිය සත්‍යයන් ලොව හැමදාමත්ම පවතී. ලොව්තුරා බුදුපියාණන්වහන්සේ කෙනෙකුන් විසින් කරන්නේ මේ අරිය සත්‍යයන් "පණ" පිහිටුවීමයි. ලෝකයාගේ භාවිතයට සුදුසු සේ අරිය සත්‍යයන් "පණ" පිහිටුවා දේශණා කර, මතුකර විග්‍රහ කරදීමයි.

අරහතුන්වහන්සේ කෙනෙකුට හෝ පසේ බුදු කෙනෙකුට පවා මේ අරිය සත්‍යයන් "පණ" පිහිටුවීම කළ නොහැකිය. අබුද්ධෝත්පාද කාලය යනු මෙසේ "පණ" පිහිට වූ අරිය සත්‍යයන් භාවිතයෙන් ඉවත් වී අභාවිත තත්ත්වයට පත්වීමයි.

මෙසේ සියලුම ලොව්තුරා බුදුපියාණන්වහන්සේලා විසින් "පණ පිහිටුවා" දේශණාකර වදාරණු ලබන බුද්ධ ධර්මය නම් දුක් බිහි කිරීමට (පුනබ්භවෝ) හේතුවන මූලික හේතුවම සොයාදන "සමුදය" උදුරා දමන ක්‍රමවේදය පෙන්වා දීමයි. බු + උද්ද යනු දුක් බිහි කරන්නට උපකාර වන හේතුව සහමුළින්ම උදුරා දැමීම යන අදහසයි. පැවැත්ම, බිහිකිරීම යනු සමුදය යනු, රාග බව, ද්වේෂ බව, මෝහ බව නිසාම සිදුවන්නකි. මේ අනුව රාග මුල උදුරා දමා, ද්වේෂ මුල උදුරා දමා, මෝහ මුල උදුරා දමා නිදහස්වීම "බුද්ධ" යන පදයේ ධර්මාර්ථයයි. පැවැත්ම සඳහා උපකාර වන "සං" බිහිකිරීම උදුරා දමා නිදහස්වීම පෙන් වූ ධර්මය බුද්ධ ධර්මයයි.

දුක යනු ඵලයකි. විපාකයකි. දුක යන්න අවිද්‍යාව නිසාම, නොදන්නාකම නිසාම සත්ත්වයා උරුම කරගන්නා ඵල විපාකයකි. දුක ඇත්තේම ලෝකය තුළමය. ලෝකය යන්න තමාම, තම සිතින්ම සදා සකස් කරගත්, අල්ලා උපාදානය කරගත්, උපාදානය කරගෙන පරිහරණය කරනු ලබන්නකි. මෙසේ අල්ලා උපාදානය කරගෙන, පරිහරණය සඳහා සකස් කරගත් ලෝකය තමා කැමති සේ නොපැවතීම, කැමති සේ දිගටම පවත්වා ගන්නට නොහැකිවීම දුකයි. එවන් ලෝකයක් උපාදානය කර නොගත්තේ නම් දුකක් ද උරුම නොවේ.

සංසාර රිය ගමන යනු ප්‍රිය මනාප සේ, කැමති සේ, නිච්ච සේ තමන් හදාගත් ලෝකය දිගින් දිගටම පවත්වාගෙන යන්නටම හිතන ඒ සඳහාම කරන කියන, සකළවිධ වූ ක්‍රියාකාරකම් සමූහයකි. සෑම පෘථග්ජන සත්ත්වයෙකුම, පුද්ගලයෙකුම දැන හෝ නොදැන හෝ කරන සකළවිධ ලෞකික ක්‍රියාකාරකම් කරන්නේ හිතන්නේ තමන්ම හදාගත් තමාගේම ලෝකය දිගටම ප්‍රිය මනාප සේ පවත්වාගෙන යන්නට ඇති වූ බලවත් කැමැත්ත නිසාමය. මෙසේ තමන්ම හදාගත් ලෝකය තමන්ට කැමති සේ "නිච්ච" සේ පවත්වා ගන්නට දරණ උත්සාහයද දුකකි. එසේ කැමති සේ, නිච්ච සේ පවත්වා ගන්නට, නවත්වා ගන්නට නොහැකි වීමද දුකකි. පංචස්කන්ධය උපාදානය කර ගැනීමෙන්ම මේ දුක උරුම වෙයි.

මේ සත්‍යයන් යථාපරිදි දැකගන්නට හැකි වී නම් එයම දුක්ඛ අරිය සත්‍යය පිරිසිඳ

දැකීමයි. මේ පැවැත්මේ "අරිය" සත්‍යය පිරිසිඳ දැකගන්නට නොහැකි වන තාක් කල් සැප හඹා ගොස් රිය ගමනකම යෙදී ලෝකයක්ම උපාදානය කරගෙන දුකම උරුම කරගනී.

සැප විඳින්නට, තමන් කැමති සේ ලෝකය දිගටම පවත්වාගෙන යන්නට මෙසේ උපාදානය කරගත් පංච උපාදානස්කන්ධයම ගෙවී විනාශ වී යනවා මිස වෙනත් කිසිවක් ගෙවී, විපරිණාමයට පත්වී, විනාශ වී යාම කාටවත්ම දුකක් ඇති කරවන්නට හේතු වන්නේ ද නැත. මෙසේ ලෝකයක් තනන්නට, උපාදානය කරගත් පංචඋපාදානස්කන්ධයම උපාදානය කරගන්නේත්, පවත්වාගෙන යන්නේත් සිතින්මය. අතින් අල්ලාගත් දෙයක් ලෝකයක් නැත. උපාදානය කරගත් සියල්ලෙහි බර දැනෙන්නේද සිතටමය. භය දැනෙන්නේද සිතටමය. බැඳීමක් ඇති වන්නේද සිතටමය. මේ අනුව දුක යනු සිතින්ම මවාගත් විඳවන දෙයකි. මේ අනුසාරයෙන් පංචඋපාදානස්කන්ධයම පිළිබඳව කරුණු යථාපරිදි තේරුම්ගෙන, අවබෝධ කරගැනීමම දුක්ඛ අරිය සත්‍යාවබෝධය ලැබීමයි.

තුන් ලෝකයම පවතින්නේ මේ බඹයක් පමණ වූ ශරීර කුඩුව තුළය. තුන් ලෝකයෙන් මොනයම් ලෝකයක් හෝ පවත්වන්නට උත්සාහ දරන්නේ නම් එයම දුක උරුම කර දෙන ක්‍රියාවකි.

අප ගෝතම සම්මා සම්බුදුපියාණන්වහන්සේ චතු අරිය සත්‍යයන් අවබෝධ කරගත් හෙයින් බුද්ධ තත්ත්වයට පත්වූහ. අවශේෂ ලෝකයාටත් තමන් වහන්සේ අවබෝධ කරගත් අරිය සත්‍යයන් අවබෝධ කරගන්නට මාර්ගය පහදා දුන් හෙයින්ම බුද්ධ විය. මේ උතුම් චතු අරිය සත්‍යය ධර්මය ගැඹුරුය. පෙර පින් පිරූ, නුවණ ඇත්තන්ටම අවබෝධ කරගත හැකිය. දුක සේ හෝ අවබෝධ කරගැනීම අතිමහත් සේ වටින්නේමය. අරිය සත්‍යයන් අවබෝධ කරගන්නට පරම පවිත්‍ර බුද්ධ ධර්මයම කළ්‍යාණ මිත්‍රයෙකුගෙන්ම සත් පුරුෂයෙකුගෙන්ම අසා දැනගත යුතුය. අනුමානයෙන්, උගත්කමෙන් ප්‍රකාශ කරන බොහෝ දේ අරිය සත්‍යයන් අවබෝධ කරගන්නට නම් උපකාර නොවේ. නිරෝධ, නිර්උදා, අනුත්පාද නිරෝධය වැනි බුද්ධ භාෂිතයේ එන පදවල අර්ථය, ධර්මය, නිරුක්තිය පෘථග්ජන අනරිය පුද්ගලයින්ට කිසිම ආකාරයකින් අවබෝධ කරගත නොහැක්කේය. එසේ තමන්ම යථාපරිදි අවබෝධ කර නොගත් අරිය ධර්මයක් තවත් පුද්ගලයෙකුගේ නිවන සඳහා මඟ පෙන්වීමට උපකාරවන සේ දේශණා කර පෙන්වීමද කළ නොහැක්කේමය.

බුද්ධ භාෂිතයේ එන "අරිය" සත්‍යයන් පිළිබඳව ධර්ම විභාගය, විවරණය විවිධ තැන්වලදී විවිධාකාරයෙන් විග්‍රහකර පෙන්වා දී ඇත.

01. මේ සතර අරිය සත්‍යයන්ම ආකාර, විභාග වශයෙන් දැක්විය හැකිය. දුක පිළිබඳව අරිය සත්‍යය, පීලනට්ඨෝ, සංඛතට්ඨෝ, සන්තාපට්ඨෝ, විපරිණාමට්ඨෝ යනුවෙන් සතර ආකාරයකින් විභාග වෙයි. පීලනට්ඨෝ යනු පෙළන, විඳවන අර්ථයයි. සංඛතට්ඨෝ යනු සංඛාර කරමින්, තමාම සකස් කරගන්නා නිසා හේතු ප්‍රත්‍යයෙන්ම හටගත් දෙයක් බව දැන ගැනීමයි.

සන්තාපට්ඨෝ යනු "සං" නිසා තැවෙන, එරෙන, සංතාපයට, සංවේගයට, සංවේදී බවට පත්වීම යන අර්ථයෙන් තේරුම් ගැනීමයි. විපරිණාම අර්ථයෙන් වැය වී, වෙනස් වී අන්‍යතාභාවයට පත්වී, වැනසී, විනාශ වී යන අර්ථයෙන් තේරුම් ගැනීමයි.

02. ඒවාගේම සමුදය අරිය සත්‍යයද - ආයුහනට්ඨෝ, නිදානට්ඨෝ, සංයෝගට්ඨෝ, පලිබෝධට්ඨෝ යනුවෙන් සතර අකාර වූ විභාගයකින් පෙන්වයි.

ආයුහනට්ඨෝ යනු කර්මබීජ සකස් කිරීම, ගති සකස් කිරීම යන අර්ථයෙන් දැකිය යුතුය. නිදාන අර්ථයෙන් සමස්ත ලෝක සත්ත්වයාටම දුක උරුම කර දෙන්නට නිදාන වූ හේතුව සමුදය ධර්ම බිහි කිරීම වශයෙන් දැකිය යුතුය. ඒවාගේම සංයෝග අර්ථය යනු යළි යළිත් නොකඩවාම සංයෝජනයන් දහයම ප්‍රතිසංස්කරණය කරන, අලුත්වැඩියා කර පවත්වාගෙන යන අර්ථයෙන් තේරුම් ගත යුතුය. පලිබෝධ අර්ථය නම් නිවනට යා නොදී, නිවනට ඇති මඟ වසා දමා, පලිබෝධයක් ලෙස මාර්ගය වසා මුවහ කරන අර්ථයෙන්ම දැකිය යුතුයි.

03. නිරෝධ අරිය සත්‍යයේ ද මෙවැනි ආකාර විභාග වශයෙන් කොටස් හතරක් ඇත. නිස්සරණට්ඨෝ, විවේකට්ඨෝ, අසංඛතට්ඨෝ, අමතට්ඨෝ යනු නිරෝධ අරිය සත්‍යයේ ආකාර විභාගයයි. නිස්සරණට්ඨ යනු සංසරණ නොකරන, රිය තත්ත්වයට උපකාර වන හේතුඵල පරම්පරාවක් දිගේ චරණය නොකරන තත්ත්වයට පත්වීම යන අර්ථයයි. විවේකට්ඨෝ යනු ක්‍රියාවන් හයක වේගය සංසිඳවා, ක්‍රියාවේ වේගයෙන් වෙන්වීම යන අර්ථයයි. ක්‍රියාවන් හයක වේගය පවතින තුරු මත්වීම, රත්වීම, ගින්න, දාහය තමා තුළම පවතී. ක්‍රියාවන් හයේම වේගය පාලනය කරගෙන, විවේක නිශ්‍රිත තත්ත්වයට පත්වීම විවේක අර්ථයෙන් සමුදය නිරෝධ කිරීමයි.

අසංඛතට්ඨෝ යන අර්ථය, සංඛාර කරමින් මෙතෙක් කලක් සංඛතයන් සකස් කළද එවැනි සංඛතවල නිස්සාරවත්කම දැක සංසාරයි කියා කටයුතු කළ ක්‍රමවේදය රිය ගමන සඳහාම උපකාර වූ බව දැන සංඛත සැකසීම අත්හැරීම, අසංඛත අර්ථයෙන් සමුදය නිරෝධ කිරීමයි.

අමතට්ඨෝ යනු අමර අර්ථයෙන්, මාරයාට ණය නොවන මතු මරණයට පත් නොවන තත්ත්වයට පැවැත්ම අවසන්කර, අපැවැත්මක් බවට පත්කර ගැනීමයි. මෙයද සමුදය නිරෝධ කිරීමෙන්ම සාක්ෂාත් කරගත හැකි බව දැකීම අමතට්ඨෝ යනුවෙන් විභාග කර පෙන්වීය.

04. නිරෝධගාමී මාර්ග පටිපදාවද මේ ආකාරයෙන්ම අර්ථ විභාග වශයෙන් සතර ආකාරය. ඒ සතර ආකාරය නම් සෝතාපන්න මාර්ගය හා ඵලය, සකෘදාගාමී මාර්ගය හා ඵලය, අනාගාමී මාර්ගය හා ඵලය, අරහත් මාර්ගය හා ඵලය

භාවිතා වශයෙන්ම අවබෝධ කර ගැනීමයි. මෙයම අෂ්ටාංගික වූ අරිය මාර්ගය නම් වූ සම්මා අංග ලෙසිනුත් විග්‍රහ කෙරෙයි. සතර සතිපට්ඨානය භාවනා කිරීම යන්නද මෙහිම ප්‍රායෝගික පැත්තයි.

චතු අරිය සත්‍යයන්ම සෝවාන් මාර්ගය, සකෘදාගාමී මාර්ගය, අනාගාමී මාර්ගය හා අරහත් මාර්ගය යන මාර්ග හතරේදීමත්

01. පිරිසිඳ දැක ගත යුතුය.
02. ප්‍රහාණය කළ යුතු සමුදය, ප්‍රහාණය කළ යුතුයි.
03. නිරෝධයෙන්ම සාක්ෂාත් කළ යුතු සත්‍යාවබෝධය, අනුත්පාද වශයෙන් සාක්ෂාත් කර ගත යුතුය.
04. අනිච්ච, දුක්ඛ, අනත්ථ වශයෙන් සියලු උපාදානයන් දැක, ත්‍රිලක්ඛණයට සිත පදම් කරගත යුතුය. "සබ්බූපදි පටිනිස්සග්ග" කළ යුතුය. මේ මාර්ග හතරේදීම එකම අරිය සත්‍යයන් හතරක් මිස වෙන වෙනම අරිය සත්‍යයන් හතරක් අවබෝධ කර ගැනීමක් සිදු නොවේ.

අරහත් මාර්ගය සම්පූර්ණ විමෙන් මෝහයේ මුල් සුන්ව, මුල් සිඳ විජ්ජාචරණ සම්පන්න බවට පත්වෙයි. එතෙක් කල්ම අවිජ්ජාචරණ අසංපන්න තත්ත්වයේ පසුවිය. අරහත් මාර්ග ඵලය සම්පූර්ණ කරගත් අරහතුන්වහන්සේට සිතූ සිතූ ඕනෑම මොහොතක, ඵලසමාපත්තියත්, ප්‍රත්‍යවේක්ෂා ඥාණ වශයෙන් ලැබූ නිවනත් මෙනෙහි කර නිවන් සුවය විඳින්නටද හැකියාව ඇත. අරහතුන්වහන්සේ කෙනෙකු සමුදය නිරෝධය කර ඇති නිසාත්, "සං" උත්පාදනය කරන මාර්ගයන් සියල්ලම මුල් සිඳ සමුච්ඡේදප්‍රහාණයෙන්ම මෝහ මුල් සිඳ ඇති නිසාත් පටිපස්සදිප්ප්‍රහාණ වශයෙන්ම සංයෝජන ප්‍රහාණය කර ඇති නිසාත්, නිස්සරණප්ප්‍රහාණයෙන් නැවත සමුදය බිහි නොවන තත්ත්වයටම සිත පිරිසිදු නිසාත්, ප්‍රඥා විමුක්තියට පත් වී ඇති නිසාත් නැවත නැවතත් භාවනා කිරීමක් හෝ මාර්ගය වැඩීමක් හෝ යෝග කර්මයන්හි යෙදීමක් හෝ පින්කම් කිරීමක් හෝ කරන්නට අවශ්‍ය වන්නේ ද නැත. අරහතුන්වහන්සේට මල් පහන් පූජා කර, ගාථා සජ්ඣායනා කර හෝ වෙනත් ආකාරයක වතක් රැක, පින්කම් කර, පින්රැස් කරගැනීමේ අවශ්‍යතාවයක් ද නැත. චිත්තසංථානයේ හෝ මනසේ හෝ කෙළෙස් නැති නිසාත්, චිත්තසංථානය පාරිශුද්ධ නිසාත්, ප්‍රඥාවෙන් පිරිපුන් නිසාත්, කුසල් කිරීමේ අවශ්‍යතාවයක් ද දැන් ඇත්තේ නැත. ප්‍රහාණය කර, සළාහැර ශුද්ධ පවිත්‍ර කරගන්නට කෙළෙස් චිත්තසංථානයේ දැන් නැති කළ කුසල් කර්ම කිරීමක් ද අවශ්‍ය නොවේ. මේ අනුව අරහතුන් වහන්සේට පින්කම් හෝ කුසල් ක්‍රියා හෝ කිරීමේ අවශ්‍යතාවයක් ද නැත.

එසේ වන්නේ නමුත් අරහතුන් වහන්සේට ද සතර සතිපට්ඨානයෙන් වාසය කිරීම නම් අවශ්‍ය වන්නේමය. ඊට හේතුව සියලු කෙළෙස් ප්‍රහාණය කළ අරහතුන් වහන්සේටද රූප ආදී සියලු සංඥා තව දුරටත් ලැබෙයි. ඵලසමාපත්තියෙන් නොසිටින හැම අවස්ථාවකදීම ලැබූ පුරුද්ද නිසා (සිත පදම් වී ඇති නිසා) සතර සතිපට්ඨානයෙන්ම කාලය ගත කිරීමෙන් ඇලීම, ගැටීම, මුළාව යන තුනෙන්ම මිදී නිදහස්ව නිවන් සුවය, නිරාමිස සුවය, නිබ්බිදා සුවය ලබා පිරිණිවන්පානා අවස්ථාව තෙක්ම නිස්සරණ සුවයෙන්ම කාලය ගත කළ හැකි වෙයි. ඒ සඳහා ඉදිරි ජීවිත කාලයම සතර සති

පට්ඨානයෙන් යුතුවම වාසය කිරීම අරහතුන් වහන්සේටද අවශ්‍යම දෙයකි.

* * * * * * * * * * *

## නිවැරදි නිවන් මඟ ත්‍රිපිටකයේ සූත්‍ර දේශණා ඇසුරින්

### සබ්බාසව සූත්‍රය

සතර මඟ සතර ඵලයන්ට පත්වීමෙන් නිවන් අවබෝධ කර ගැනීම යනු මෙතෙක් කලක් විඤ්ඤාණ තත්ත්වයෙන් ක්‍රියාත්මක වූ තම සිතින්ම පූර්ණ ලෙස මිදී නිදහස්වී චිත්ත පාරිශුද්ධත්වයට පත්වීමයි. අනන්ත අප්‍රමාණ වූ කාලයක් විඤ්ඤාණ තත්ත්වයෙන්ම ක්‍රියාත්මක වූ තමාගේ සිත පිළිබඳව මනා ලෙස තේරුම්ගෙන විඤ්ඤාණය හැසිරෙන ආකාරය පිළිබඳ යථාපරිදි දැන හඳුනාගෙන විඤ්ඤාණ තත්ත්වයෙන් පවතින තමන්ගේම සිත උපකාර කරගෙන ඒ විඤ්ඤාණ තත්ත්වයෙන් මිදී නිදහස් වීම නිවන් අවබෝධයයි. මේ සඳහා වෙනත් සිතක් පහළ වන්නේ ද නැත. මිනිසෙකු ලෙස උපත ලැබූ මේ අත්බවයේදීම මනස මෙහෙයවා, මනසින් කල්පනා කර, උත්තරීතර මනුෂ්‍ය ධර්මයන් යථාපරිදි සම්පූර්ණ කරගෙන තමාම තමාගෙන් මිදී නිදහස් වීම නිවන් අවබෝධ කර ගැනීමයි.

මම, මගේ ආත්මය යැයි දැඩිව ගත් සත්ත්ව, පුද්ගල දෘෂ්ඨියකට පත්වීමෙන් ඇතිවන, නැතිවන, එකතු කරන, එකතු කළ දේ ගෙවී යන නියත හැසිරීම් රටාවකට එකම හේතුව කිළිටි වූ සිතින් නිරතුරු චිත්තජ ශක්තීන්, විඤ්ඤාණ ශක්තීන් (බීජ) එකතු කර ගබඩා කිරීමයි. මේවාට අපි කර්ම බීජ යැයි ද නම් කරමු. මේ ආකාරයෙන් විඤ්ඤාණ එකතු කරන විඤ්ඤාණ ශක්තීන් (බීජ) හොඳ, යහපත් හෝ නරක, අයහපත් හෝ ආකාරයේ ඒවා විය හැකිය. ඒවා අපි පින් පව් අකුසල් යැයි නම් කරමු. ඒවා කිනම් ආකාරයක හෝ චිත්තජ ශක්තීන් වුවත් මෙම බීජ සංසාර ගමන දිගින් දිගටම පවත්වාගෙන යාමට පමණක් නියත වශයෙන්ම හේතු කාරක වෙයි.

හොඳ, නරක, පින්, පව්, අකුසල් යැයි අප නම් කරන ලෝභ, අලෝභ, ද්වේෂ, අද්වේෂ, මෝහ, අමෝහ යන ගති ලක්ෂණයන් මිස වෙනත් කිසිම ආකාරයක චිත්තජ ශක්තියක්, කර්මජ බීජයක් කිසිම සත්ත්වයෙකුට, මිනිසෙකුට, දෙවියෙකුට හෝ ප්‍රාණියෙකුට තම විඤ්ඤාණයෙන් නිපදවීම එකතු කර ගැනීම කළ නොහැකිය. සංඛාර කරමින් "සං" එකතු කර, චිත්තසංථානයේ තැන්පත් කර ගැනීමේ ක්‍රියාවලිය මේ ඉහත දක්වූ ගතිගුණ එකතු කිරීමයි. ජීවත්වන හැම සත්ත්වයෙකුගේම, ප්‍රාණියෙකුගේම, භූතයෙකුගේම, දෙවියෙකුගේම විඤ්ඤාණයේ එකම රාජකාරිය නිරතුරුවම මෙවන් චිත්ත ශක්තීන් (බීජ) එකතු කරමින් ඒවා චිත්තසංථානයේ ගබඩාකර, භාවිතයට ගතහැකි ලෙස පවත්වාගෙන යාමයි. මෙලෙස එකතුකළ ගබඩා කළ චිත්තජ ශක්තීන් (බීජ) ඵල විපාක දීමෙන් මතු මතුත් උපතක් බිහිවෙයි. කර්මජ බීජ චිත්තසංථානයේ පවතින තුරාවට මතු උපතක් ද නියත ලෙසින්ම අනිවාර්යයෙන්ම ඇතිවෙයි. යම් මිනිසෙකු චිත්තසංථානයේ ගබඩා වී පවතින චිත්තජ ශක්තීන්, කර්මජ බීජ සළාහැර යම් ක්‍රියාමාර්ගයකින් අවසන්

කරගත හොත් ඒ මිනිසාට මතු උපතක් ලැබීමට කිසිම ආකාරයකින් හේතුවක් ද නැත. චිත්තජ ශක්තීන් අලුතින් එකතු කිරීමද නවත්වා අතීතයේ එකතුකර ගබඩාකර ගත් කර්මජ බීජ ද සම්පූර්ණයෙන්ම සළාහැර ශුද්ධ පවිත්‍රවීමෙන් ම මතු උත්පත්තිවලින් ද නියත වශයෙන්ම වැළකිය හැකිවෙයි. එයම නිවන් අවබෝධයයි.

බුද්ධ ධර්මයේ කෙළෙස් ලෙස කුණු ලෙස පෙන්වා වදාළ මෙම කර්මජ බීජ, චිත්තජ ශක්තීන්, පින් හෝ පව් යන කුමන ආකාරයේ ඒවා වුවත්, නියත වශයෙන්ම ඒවා සංසාර ගමන දික්කරන සංසාර සාගරයේ සත්ත්වයා අතරමං කරන විඤ්ඤාණයේම ආහාර ලෙස භාවිතා කල හැකි දේවල්ය.

හැම පෘථග්ජන පුද්ගලයෙකුම විඤ්ඤාණයෙන් කටයුතු කරනතාක් කල් මෙසේ තමන්ම එකතුකර, ගබඩාකර ගත් කර්මජ ශක්තීන් නිසා සංයෝජන දහයකින්ම සංසාරයට බැඳී සංසාර ගමන යයි. ඒ බැඳුනු බැම්වල යම්කිසි සාරවත් බවක්, වටිනාකමක්, සුරක්ෂිත බවක් දකිනා නිසාම තව තවත් ඒ බැම් දහයම තදකර ගැනීමට, සියලු ආකාර වූ ලෞකික ක්‍රියාකාරකම් ද කරති. මේ බැම් දහයම ඒ ඒ සත්ත්වයාම, පුද්ගලයාම, තම තමන්ගේ කැමැත්තෙන්ම, ඡන්දරාගයෙන්ම එකතුකරගත්, බැඳගත් බැම්ය. පෘථග්ජන පුද්ගලයෙකු උපන්දා පටන් මරණ මොහොත දක්වාම හැම උත්සාහයක්, වීර්යයක්ම ගන්නේත්, හැම දුකක්ම විඳින්නේත්, පව්කම්, පින්කම් කරන්නේත් මේ බැම් දහයම තව තවත් තරකර, මතු උපතක් ලැබීම සහතික කර, විඤ්ඤාණ පැවැත්ම සුරක්ෂිත කර ගැනීමේ එකම බලාපොරොත්තුවෙනි. එවැනි බලාපොරොත්තු පැවැත්වීම විඤ්ඤාණයේ නියත ගති ලක්ෂණයයි. එයම අවිද්‍යාවයි, තණ්හාවයි.

මේ සංයෝජන දහයම, බැම් දහයම බැඳී ඇත්තේ ඒ ඒ සත්ත්වයාගේ, පුද්ගලයාගේ සිත තුළමය. විඤ්ඤාණ තත්ත්වයේ පවතින සිතෙහිමය. මේ අනුව මේ සංයෝජන දහයෙන් මිදී බැම් දහයම ගළවා ලෙහා දමා නිදහස් විය යුත්තේද තම සිතෙන්මය. එසේ නිදහස් විය හැකි වන්නේත් ඒ ඒ සත්ත්වයාටමය. මිනිසෙකු ලෙස මනසක් ලැබ උපත ලත් මේ ජීවිතයේ දී මේ පිළිබඳව අසා දැන තේරුම් ගෙන ලබාගත් යථාවබෝධයෙන්ම ක්‍රියාකළ හොත් නිවන් අවබෝධ කර ගැනීම යනු පැතුමකට සීමා කර, කල් දැමිය යුතු දෙයක් නොව අද තමා තමාටම අත්විඳ ගතහැකි සත්‍යයකි. මිනිසෙකුට හැර වෙනත් කිසිම ප්‍රාණියෙකුට, සත්ත්වයෙකුට මේ උතුම් ධර්මය අසා දැන තේරුම් ගෙන ඒ අනුව ප්‍රතිපත්ති පුරා කටයුතු කරන්නට හැකි ආකාර වූ මනසක් ලබා ඔවුන් උපත ලබා නැත. මේ අනුව මිනිසත් බවටම උරුම වූ ශක්තිය මේ හැකියාව ප්‍රායෝජනයට ගෙන උත්තරීතර මනුෂ්‍ය ධර්මයන් අප්‍රමාදව අසා දැන තේරුම් ගන්නටම මිනිසත් බවෙහි ජීවත් වන සුළු කාල පරාසේදී උපරිම ලෙස උත්සාහ කළ යුතුය.

හැම මිනිසෙකුටම මනසින් කල්පනා කර, මනස මෙහෙයවා, තේරුම්ගත හැකි ආකාරයෙන් බුදුපියාණන් දේශණා කර වදාළ නිවන් මාර්ගය අනුපුබ්බංගම වූ මාර්ගයකි. එනම් ක්‍රමානුකූලව අනුගමනය කළයුතු අනුපූරක මාර්ගයකි. අද බොහෝ දෙනෙකු විශේෂයෙන්ම බෞද්ධයින් යැයි කියා ගන්නා අය මේ අනුපුබ්බංගම නිවන් මාර්ගයේ මුල, මැද, අග නිවැරදිව තේරුම් ගෙන කටයුතු කරන බවක් නම් පෙනෙන්නට නැත. කුමක්

හෝ කරන්නන් වාලේ කරනු මිස බුදුපියාණන් දේශණාකර වදාළ නිවැරදි නිවන් මඟ අනුගමනය නොකරන හේතුව නිසාම සංසාරයේ අතරමං වීමට කටයුතු කරති. උතුම් මිනිසත් බව ලබා උපන් මේ අවස්ථාවෙන් නිසි ඵල ප්‍රයෝජන ලබාගන්නට දැනුමක් තේරුමක් නැතිවම කාලය අපතේ යවති. මේ නිසාම නිවන් දැකීම යනු අද බෞද්ධයින්ගේ පැතුමකට පමණක්ම සීමා වූ දෙයකි.

නිවන් දැක ගන්නට, නිවන් අවබෝධ කර ගන්නට මේ මිනිස් ජීවිතයේදීම යම් මිනිසුන් පිරිසක් අවංකවම කටයුතු කරයි නම් ඒ අයගේ දැන ගැනීම සඳහා ඒ අයට මඟ අනුගමනය කර, නිවන නිදහස අත්විඳ ගැනීම සඳහා මඟ පෙන්වීමක් කිරීමට බුදුපියාණන් සූත්‍ර ධර්ම කිහිපයකම දේශණාකර වදාළ අනුපුබ්බංගම නිවන් මාර්ගය නිවැරදිව පැහැදිළි කර දීම අපේ යුතුකමක් සේ සළකමු.

සබ්බාසව සූත්‍රය කවුරුත් අසා ඇති ඉතාමත් සරළ ලෙස නිවන් මඟ පියවරෙන් පියවර විස්තර කළ මජ්ඣිම නිකායේ මුළින්ම ඉදිරිපත් කළ සූත්‍රයකි.

සබ්බාසව සූත්‍රයට අනුව, අංග හතක් අනුපිළිවෙලින් සම්පූර්ණ කරගත යුතුයි.

01. ආසවා දස්සනා පහාතබ්බා
02. ආසවා සංවරා පහාතබ්බා
03. ආසවා පටිසේවනා පහාතබ්බා
04. ආසවා අධිවාසනා පහාතබ්බා
05. ආසවා පරිවජ්ජනා පහාතබ්බා
06. ආසවා විනෝදනා පහාතබ්බා
07. ආසවා භාවනා පහාතබ්බා

යන මේ අනුපූරක නිවන් මාර්ගයයි.

මේ අනුපූරක නිවන් මාර්ගය තවත් තැනක සංයෝජන දහයකින් මිදීමේ මාර්ගයක් ලෙසද පෙන්වා වදාරා ඇත.

01. සක්කාය දිට්ඨියෙන් මිදී නිදහස් වීම.
02. විචිකිච්චාවෙන් මිදී නිදහස් වීම.
03. සීලබ්බතපරාමාසයෙන් මිදී නිදහස් වීම.
04. කාම රාගයෙන් මිදී නිදහස් වීම.
05. ව්‍යාපාද පටිඝයෙන් මිදී නිදහස් වීම.
06. රූප රාගයෙන් මිදී නිදහස් වීම.
07. අරූප රාගයෙන් මිදී නිදහස් වීම.
08. මානයෙන්, මඤ්ඤතාවෙන් මිදී නිදහස් වීම.
09. උද්ධච්චයෙන්, කුක්කුච්චයෙන් මිදී නිදහස් වීම.
10. අවිද්‍යාවෙන් මිදී නිදහස් වීම.

යනුවෙන් දේශණාකර වදාළේ ද, දස සංයෝජනවලින් ද අනුපිළිවෙළටම නිදහස් විය යුතු බව පෙන්වා දීමටයි. තවත් සූත්‍ර දේශාණාවකදී සුනේථ, ධාරේථ, චරාථ යනුවෙන් පියවර තුනක් පෙන්වා වදාරා ඇත.

සංච්ච විභංග සූත්‍රයේත්, මහා චත්තාරෝ සූත්‍රයේත්, ධම්මචක්කපවත්වන සූත්‍රයේත් දේශණා කර පෙන්වා වදාළ පරිදි චතු අරිය සත්‍යය අවබෝධ කර ගැනීම ද අනුපිළිවෙලටම අනුපුබ්බංගම නිවන් මාර්ගය ක්‍රමානුකූලව අනුගමනය කිරීමෙන් පමණක් සම්පූර්ණ කරගත යුතු බව පැහැදිළිවම පෙන්වා වදාරා ඇත.

මේ ලෙසින් ප්‍රකාශ කර පෙන්වා දුන් අනුපුබ්බංගම නිවන් මාර්ගය අද බොහෝ ගිහි පැවිදි අය දන්නවා යැයි සිතා සිටියත් ඒ අය ක්‍රියාකරන ආකාරයෙන් නම් පෙනෙන්නේ පළමු පියවර අතහැර, දෙවන තුන්වන පියවරයන් හෝ අගටම පෙන් වූ පියවර හෝ අනුගමනය කරනු මිස පළමු පියවර ගැන සිතා බලන්නටවත් ශක්තියක් ලැබී නැති බවයි.

හැම සූත්‍ර දේශාණවකදීම පැහැදිළිව පෙන්වා දුන් ආකාරයට මුල්ම පියවර වන්නේ දස්සනේන සංපන්න වී, දස්සනේන පහාතබ්බා කිරීමයි. මෙයම සුතේථ, අසා දැනගත යුතුදේ ලෙසින් ද, "ධම්මෝ සංදිට්ඨිකෝ" යනුවෙන් ධර්මානුකූලව "සං" දැක ගැනීම ලෙසින් ද, "සම්මා දිට්ඨි" ලෙසින් "සං" වලින් සම්පූර්ණ ලෙස මිදෙනා ආකාරය අසා දැනගත යුතු බවද ඉතා පැහැදිළිවම දේශණාකර ඇත.

"යෙ ධම්මා හේතුප්පබවා
තේසං හේතුං තථාගතෝ ආහ
තේ සං චයෝ නිරෝධෝ
ඒවා වාදී මහා සමණෝ"

හේතුඵල ධර්මය "පටිච්චසමුප්පාද ධර්මය" ඉදපච්චයතාව යන නම්වලින් බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළ "සං" (එකතු කිරීමේ) ක්‍රියාවලියට මුල් වූ හේතුඵල ධර්මය පිළිබඳව තේරුම් ගෙන "සං" නිරෝධ කිරීම ඒ භගවත් ශ්‍රමණයන් වහන්සේගේ දේශණාව වන බව මෙයින් මනා ලෙස ප්‍රකාශ වෙයි. ඒ අනුව "දස්සනේන පහාතබ්බා" යන පළමුවන පියවර සම්පූර්ණ කර ගැනීම සඳහා,

01. හේතුඵල ධර්මය, පටිච්චසමුප්පාද ධර්මය නිවැරදිව අසා තේරුම් ගැනීම.
02. ද්වතාව - හැම සංඛතයකම - හැම සංකල්පනාවකම ඇති අන්ත දෙක, දෙපැත්ත දැක ගැනීමේ ශක්තිය ලැබීම.
03. අනිච්ච, දුක්ඛ, අනත්ථ යනුවෙන් දේශණාකර වදාළ ත්‍රිලක්ඛණය නිවැරදිව තේරුම් ගැනීම.

යන පියවර තුන පළමුකොට සම්පූර්ණ කරගැනීමෙන් චතු අරිය සත්‍යය අවබෝධය සඳහා පදනම දමා ගැනීමයි.

මේ කරුණු ගැන අසා දැන මනා අවබෝධයක් ලැබීමෙන් ම, සක්කාය දිට්ඨියෙන් මිදී, විචිකිච්ඡාවෙන් මිදී, සිලබ්බතපරාමාසයෙන් ද වෙන් වී සෝවාන් මාර්ග ඵලයට පත්වීම සිදුවෙයි.

හේතුඵල ධර්මතාව අසා දැන තේරුම් නොගෙන ද්වතාව නැමති පැවැත්මෙහි ඇති නැතිවෙන අන්ත දෙක තේරුම් නොගෙන මේ සංසාර ගමන නැමති රිය ගමන ගැන හෝ

මෙහි නියත ස්වභාවය වූ අනිච්ච, දුක්ඛ, අනත්ථ යන ත්‍රිලක්ඛණය ගැන හෝ නිවැරදිව තේරුම් ගත නොහැකිය. මේ කරුණු තුන පිළිබඳව යම්කිසි යථාවබෝධයක් ලැබීමෙන් ම පමණක් චතු අරිය සත්‍යයේ මූලික අංගයන් ද එනම් දුක්ඛ සත්‍යයද අවබෝධ කරගත හැකිවෙයි.

ජීවිත කාලයක් තුළම සිල් රැකීම හෝ සිල්වතක් සමාදන් වීම හෝ ධූතාංගයන් රැකීම මෙන්ම මුළු ජීවිත කාලයම භාවනා කිරීමෙන් කාලය ගෙවා දැමීමත්, ''දස්සනේන පහාතබ්බා'' යන මුල් පියවර සම්පූර්ණ කර ගැනීමක් නම් සිදු නොවේ. පළමු පියවර ලෙසින් පෙන්වා වදාළ දස්සනේන පහාතබ්බා සම්පූර්ණ කර නොගෙන නිවන් අවබෝධයද සිදු නොවන බව හැම බෞද්ධයෙකුම නිවැරදිව තේරුම් ගත යුතුය. සීල, සමාධි, ප්‍රඥා යනු නිවන් මගේ ප්‍රධාන අංගයෝයි. සංවරවීම, සංසිඳුවීම, සම්මාවීම යනු ද මේ ප්‍රධාන අංගයෝ තුනම වෙන වචනවලින් සම්පූර්ණ කිරීමකි. මේ අංග තුනම සම්පූර්ණ කරගත හැකි වන්නේ "සං" දැකගත හැකි වුවහොත් පමණි. "දස්සනේන සංපන්නෝ" යනුවෙන් ද "ධම්මෝ සංදිට්ඨිකෝ" යනුවෙන් ද "සම්මා දිට්ඨිය" යනුවෙන් ද "සුතේථ" යනුවෙන් ද බුද්ධ භාෂිතයේ ප්‍රකාශකර පෙන්වා වදාළේ "සං" දැක "සං" තේරුම් ගැනීම "සං" එකතුකර ගන්නා ආකාරය නිවැරදිව දැක ගැනීමෙන් ම සංවර වී, සංසිඳවා, සම්මා වී නිවන් අවබෝධය කරගත හැකි බව පෙන්වා දීමටයි.

පරම පවිත්‍ර සිරි සද්ධර්මය කළ්‍යාණ මිත්‍රයෙකුගෙන්ම අසා දැන "සෝතාවධානේ පඤ්ඤා සුතමයේ ඤාණං" යන තත්ත්වයට පත්වී, පරතෝඝෝෂක ප්‍රත්‍ය ලැබීමටත්, සෝතාපන්න මාර්ග ඵලයට පත්වීමටත් මිනිසෙකුට උපකාරවන දස්සනේන පහාතබ්බා වීම පළමුවන පියවරයි.

ත්‍රිපිටකය හෝ වෙනත් බෞද්ධ ඉතිහාස පොත්පත් හෝ කියවා ඇති හැම මිනිසෙකුම තේරුම්ගත යුතු වැදගත්ම දෙයක් නම් එදා බුදුපියාණන් වැඩසිටි කාලයේත්, අරහතුන් වහන්සේලා වැඩසිටි යුගයේත් බුදුපියාණන් හමුවට ආ දස දහස් ගණන් විවිධාකාර මිනිසුන්ට බුදුපියාණන් මුලින්ම පන්සිල් සමාදන් කරවීමක් හෝ තිසරණයෙහි පිහිටුවීමක් හෝ නොකළ බවයි. මිනිස්සු බුදුපියාණන් ඉදිරියේ වැඳ නමස්කාර කර, එකත්පසව ඉඳගෙන, පරම පවිත්‍ර ධර්මයම ශ්‍රවණය කළහ. පැයක් දෙකක් ධර්මය ශ්‍රවණය කළ බොහෝ මිනිසුන් එතනින් නැගිට්ටේ සෝවාන් මාර්ගඵලයට ද පත්වීමෙන්ය. මේ මාර්ගඵලයට පත්වීම සිදු වූයේ දස්සනේන සම්පන්නෝ වීම නිසාම මිස සිල් රැකීමෙන් හෝ භාවනා කිරීමෙන් හෝ කර්මස්ථාන වැඩීමෙන් හෝ නම් නොවේ. බුදුපියාණන් මිනිසුන්ට දේශණා කර වදාළේ හේතුඵල ධර්මය, ද්වතාව හා ත්‍රිලක්ඛණයයි. මේ මූලික කරුණු තුන පැහැදිළි කර දුන් පසුව ලැබූ ධර්මාවබෝධය නිසාම සෝවාන් මාර්ගඵලයට පත්වීම සිදුවිය. උපමා කතා, උපහැරණ කතා, චරිත කතා මෙන්ම විවිධ පරිවාර කතාද ගෙනහැර දැක්වූයේ හේතුඵල ධර්මය, ද්වතාව, ත්‍රිලක්ඛණය විග්‍රහකර විවරණය කරදීම සඳහාමය.

හේතුඵල ධර්මය දේශණා කිරීමෙන් ද, ද්වතාව පෙන්වා පැහැදිළි කර දීමෙන් ද, අනිච්ච, දුක්ඛ, අනත්ථ යන ත්‍රිලක්ඛණය පැහැදිළි කරදීමෙන් ද බුදුපියාණන් පෙන්වා වදාළේ මේ ලෞකික පැවැත්මෙහි, ජීවත්වීමෙහි ඇත්ත ස්වරූපය, සත්‍යය ස්වභාවය,

යථාභූතඥාණයෙන් මූලික කරුණු පහදා දීමයි. මේ පැවැත්ම තුළ, ජීවත්වීම තුළ, අතරමංවී, මංමුළාවී, සැප ප්‍රිය මධුර දේම සොයායමින්, දුකම උරුම කරගන්නා දුක්ම විඳිමින්, සංසාර රිය ගමනක් යනවා මිස වෙනත් අර්ථයක්, වටිනාකමක් ඇති යමක් නොකරන බව පෙන්වා පැහැදිළි කරදීමට ම ධර්මය දේශණා කළ සේක.

මේ සංසාර ගමන, රිය ගමනට හේතුකාරක වූ තමන්ගේම හැසිරීම් රටාව නිවැරදිව තේරුම්ගත් මොහොතේ පටන්ම තමන්ම සාරයි කියා මෙතුවක් කල් තම කැමැත්තෙන්ම එකතු කළ ඒ හේතුන්ගේම චිත්ත ශක්තීන් නිපදවීමෙන්ම කර්මජ බීජ රැස්කිරීමෙන් ම නිදහස් වීමට ඕනෑකමක්, ශක්තියක්, හැකියාවක් අවබෝධයක් ලැබීම අරිය මාර්ගයට සම්ප්‍රාප්ත වීමයි.

නිවන් අවබෝධ කරගන්නට උපකාර වන උතුම් පරම පවිත්‍ර බුද්ධ ධර්මය නිවැරදිව අසා දැනගත හැකි වන්නේ කල්‍යාණ මිත්‍රයෙකුගෙන්ම පමණි. කල්‍යාණ මිත්‍රයා යනු කෙළෙස් කුණු සළාහැර, කළු නසන්නට මඟ කියා පැහැදිළි කරදෙන උත්තමයායි. කුණු සළාහැර, කෙළෙස් නසා හැර, කුණු එකතු කිරීමෙන් ද, කුණු භාවිතා කිරීමෙන් ද වැළකී, පාරිශුද්ධතාවයට පත්වන්නට තවත් මිනිසෙකුට නිවැරදිව මඟ කියා පැහැදිළි කර විග්‍රහ කරදිය හැකි වන්නේ කල්‍යාණ මිත්‍රයෙකුටම පමණි. අප්‍රමාණ දුක්විඳින ලෝක සත්ත්වයා කෙරෙහි හටගත් අනුකම්පාවෙන්ම ඒ ලෝක සත්ත්වයා විඳින දුක් දැක ඒ දුකෙන් ඔවුන්වත් නිදහස් කිරීමේ එකම බලාපොරොත්තුවෙන් නිවන් මඟ කියා පැහැදිළි කරදිය හැකි වන්නේ ඒ මඟ අත්විඳ ගත්, මඟනැණ පහළ වූ, පූර්වභාග නුවණ පහළ වූ අරිය උත්තමයෙකුට ම පමණි.

මේ සංසාර රිය ගමන පිළිබඳව ඇත්ත ඇති සැටියෙන් දැකගත් රිය අරිය කළ අරිය උත්තමයෙකුටම පමණක් අනෙකුත් පෘථග්ජන මිනිසුන්ටත් කල්‍යාණ මිත්‍ර සම්පත්තිය ලබාදීමටත් පරතෝඝෝෂක ප්‍රත්‍ය ලබාදීමටත් පරම පවිත්‍ර සිරි සද්ධර්මය කියා පැහැදිළි කර නිවැරදිව තේරුම් කර දෙන්නටත් ශක්තිය හා හැකියාව ඇත. එවන් උත්තමයෙකු ලෞකිකත්වයේ ඇති නිසරු බව, නොවටිනා බව, අනාථ බව, අනිච්ච බව, නිවැරිදිවම තේරුම්ගෙන ඇති නිසා ලෞකිකත්වය සංවර්ධනය කිරීම සඳහා හෝ වෙනත් ලෞකික යහපතක් පිණිස හෝ යමක් දේශණා නොකරති.

කල්‍යාණ මිත්‍රයෙකු ලෙසින් අනිකුත් ලෝක සත්ත්වයාට ධර්මය දේශණා කරන්නේ කිසියම් ආකාරයකින් තමන්ට ආපසු යම් ප්‍රතිලාභයක් බලාපොරොත්තුවෙන් හෝ වචනයකින්වත් කිර්තියක්, ප්‍රශංසාවක්, ප්‍රසිද්ධියක්, බලාපොරොත්තුවෙන් හෝ රජ සිටුවරු සතුටු කිරීම පිණිස හෝ වෙනත් ලෞකික, භෞතික වශයෙන් ලැබිය හැකි කිසියම් ප්‍රතිලාභයක් බලාපොරොත්තුවෙන් හෝ නොවේ. චතු අරිය සත්‍යය අවබෝධ කරගත් එවැනි අරිය උත්තමයෙකු උතුම් බුද්ධ ධර්මය දේශණාකර ලෝකයාට පැහැදිළි කර දෙන්නේ තමන් අවබෝධ කරගත් සත්‍යයන් පින්වත් දෙව් මිනිසුන්ට ද අවබෝධ කර දී නිවන් මඟ හෙළි පෙහෙළි කරදීමේ පරතෝඝෝෂක ප්‍රත්‍ය ලබාදීමේ එකම බලාපොරොත්තුවෙනි.

පොතපත කියවාගත් උගත්කමෙන් හෝ තවත් කෙනෙකුගෙන් අසා දැන කියාගත් දේ අනුව හෝ පෘථග්ජන පුද්ගලයෙකු කරනු ලබන දේශණාවකින් තවත් පෘථග්ජන පුද්ගලයෙකුට කළ්‍යාණ මිත්‍ර සම්පත්තියක් නොලැබෙයි. පරතෝඝෝෂක ප්‍රත්‍යද නොලැබෙයි. පොතපත කියවා හෝ උගතුන්ගෙන් අසා දැනගත් දේ අනුව හෝ කරනු ලබන දේශණා අනුමානයෙන්ම කරන දේශණා මිස ප්‍රකාශ මිස තමන්ම අත්විඳගත්, අත්දැකගත් සත්‍යයයන් ප්‍රකාශ කිරීම නොවේ. මේ ලෞකිකත්වය තුළම යම්කිසි වෙනස්කමක් ඇති කරගන්නට සුගතියට පත්වන්නට ඒවා උපකාර වුවත්, ලෞකිකත්වයෙන් මිදී ලෝකෝත්තර තත්ත්වයට පත්වන්නට නම් ඒවා උපකාර නොවේ.

බාහිර පෙනුමෙන්, හැසිරීමෙන් හෝ ගිහි පැවිදිකම නිසා හෝ අරිය උත්තමයෙකු හා පෘථග්ජන පුද්ගලයෙකු අතර ඇති වෙනස බාහිර ලෝකයට පහසුවෙන් තේරුම් ගන්නටද අපහසුය. නිවන් අවබෝධ කර ගන්නට අවංකවම උත්සාහ දරණ නිවන් මඟ සොයන කෙනෙකුට අරිය උත්තමයෙකු තෝරා බේරා හඳුනාගත හැකි වන්නේ ඔහු දේශණා කරන ධර්මය ඇසුරෙන්ම පමණි. නිවන් අවබෝධ කරගන්නට අවංකවම උත්සාහ නොකරන ඒ පිළිබඳ විශ්වාස නොකරන ලෞකිකත්වයෙන් සුවයම පතන බොහෝ මිනිසුන්ට අරිය උත්තමයෙකුගේ වටිනාකම හෝ ඒ දේශණා කරන උතුම් ධර්මය හෝ තේරුම් ගන්නට ශක්තියක් නැත. එවන් මිනිසුන් පරම පවිත්‍ර ධර්මයද දකින්නේ සැප සම්පත් විනාශකරන, පැවැත්මට විරුද්ධ වූ විනාශකාරී දෙයක් ලෙසින් පමණි.

## සංවරට්ඨේන සීලං
## (ආසවා සංවරා පහාතබ්බා)

අනුපුබ්බංගම නිවන් මාර්ගයේ දෙවන පියවර වන්නේ සංවරේන පහාතබ්බා යනුවෙන් දේශණා කළ සංවරත්වයට පත්වීමෙන් සීලයේ පිහිටීමයි. තම ක්‍රියා, වදන්, සිතිවිලි යන තුන්දොරම පාලනය කරගත හැකි වන්නේ තමන්ගේම ඉන්ද්‍රියයන් හයම සංවර කරගැනීමෙනි. විඤ්ඤාණය හැමවිටම උත්සාහ දරන්නේ ඉන්ද්‍රියයන් හයම උපකාරයෙන් ලෝභ - අලෝභ, ද්වේෂ - අද්වේෂ, මෝහ - අමෝහ ගති ලක්ෂණ එකතුකර විඤ්ඤාණයේ ආහාර සඳහා ඒවා ගබඩා කර ගැනීමටයි. මේ එකතු කරන ආහාර එකතු කිරීමෙන් වැළකී, එකතු කිරීමෙන් වෙන්වී, වාරණය කිරීම සංවරත්වයට පත්වීමයි. මෙහිදී කළ යුතු දේ නිවැරදිව තේරුම් නොගත්තොත් ඉන්ද්‍රියයන් සංවර කරගත නොහැකිය. අපි ඉන්ද්‍රියයන් හයම ආයතන හයක් ලෙසද නම් කරන්නේ මේ ආයතන හයෙහිම එකම රාජකාරිය එකතු කිරීම නිසයි. ආයතන යනු එකතු කරන - අයකරන තැන් යන තේරුමයි.

අද සම්මත භාෂාවෙන් "සංවර" යන පදයෙන් අදහස් කරන "සංවර" වීමත්, බුද්ධ භාෂිතයේ "සංවරේන පහාතබ්බා" යනුවෙන් වදාළ "සංවර" වීමත් යන ක්‍රියාමාර්ග දෙක අතර විශාල වෙනසක් ඇත. ඉන්ද්‍රියයන් හය හරහාම විඤ්ඤාණය එකතු කරන ගතිගුණ, ගති ලක්ෂණ දැකගත්තේ නැතිනම් "සංදිට්ඨිකෝ නොවුයේ නම් සංවර විය නොහැකිය. මේ නිසා මුල් පියවර නිවැරදිව තේරුම් නොගෙන "ධම්මෝ සංදිට්ඨිකෝ" නොවී, දස්සනේන සම්පන්නෝ නොවී, සං දැකනොගෙන "සංවර" වීමක් ගැන සිතීමටවත් නොහැකිය. සංවරත්වයට පත්විය හැකි වන්නේ හේතුඵල දහමට බහා ගළපා ඉන්ද්‍රියයන්

හරහා එකතු කරගන්නා ගති ලක්ෂණයන්වල ආදීනව හා ආනිසංස නිවැරදිව දැක ගැනීමෙන් ම පමණි.

භාවනා කිරීමට, විපස්සනා අනුපස්සනා කිරීමට, සමාධි ගතවීමට පෙර සංවරත්වයට පත්ව, සීලයේ පිහිටා කටයුතු කළයුතු යැයි බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළේ මේ ආකාරයෙන් සංවරත්වයට පත්වීමයි. "සංවර" එකතු කිරීමෙන් වැළකී, සංවරත්වය තුළින්ම පිහිටන සීලයේ පිහිටා කටයුතු නොකළ හොත් සමාධියක පිහිටා, එකදිගටම සමාධිගත වී සමාපත්තියක පිහිටීමටද නොහැකිය. මේ අනුව ඵල සමාපත්තියට පත්වීම සඳහා සංවරත්වය තුළින්ම පිහිටන සීලය මිස සිල්වතක් සමාදන් වී, සිල් රැකීමෙන් ලබන ලෞකික ශික්ෂණය ප්‍රමාණවත් නොවේ.

නිවන් අවබෝධ කර ගන්නට අවංකවම උත්සාහ දරණ සෑම කෙනෙක්ම "සංවර සීලය" නැමති බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළ වදන්වල ධර්ම අර්ථයම නිවැරදිවත්, යථාපරිදිත් තේරුම් ගැනීම ඉතාම වැදගත්ය. විපස්සනා නුවණ පහළ කර ගැනීමටත්, සමාපත්තියට පත්වීමටත්, සම්මා අංගයන් නිවැරදිව තේරුම් ගෙන, "සං" වලින් පූර්ණ ලෙස මිදී නිදහස්ව නිවන් අවබෝධ කරගන්නටත් මිනිසෙකුට හැකියාව ලැබෙන්නේ යථාවබෝධයෙන්ම පිහිටන සංවර සීලයේ පිහිටා කටයුතු කිරීමෙන් පමණි. ජීවිතයක් පැවැත්වීම සඳහා විඤ්ඤාණය එකතු කරගන්නා ආහාර, ලෝභ - අලෝභ, ද්වේෂ - අද්වේෂ, මෝහ - අමෝහ සියල්ලම එකතු කිරීම, "සං" යන පදයෙන් බුද්ධ භාෂිතයෙහි ගෙන හැර දක්වීය. මේ ලෙස ඉන්ද්‍රියයන් හරහා එකතු කර ගන්නා "සං" එකතු කිරීමෙන් වැළකී, "සංවර" වීම සඳහා "සං" නිවැරදිව දැක ගත යුතුය. නිවැරදිව "සං" දැකගත හැක්කේ හේතුඵල දහමට බහා ගළපා බලා සත්‍යය දැක ගැනීමෙන්ම පමණි. "සම්මා" යනු මෙසේ ඉන්ද්‍රියයන් හරහා එකතු කරගන්නා ලෝභ - අලෝභ, ද්වේෂ - අද්වේෂ, මෝහ - අමෝහ එකතු කිරීමෙන් ද, ගබඩා කිරීමෙන්ද, භාවිතා කිරීමෙන්ද වැළකී මිදී නිදහස් වීමයි. කර්ම බීජ ලෙසින් පෙන්වා වදාළ මෙම චිත්ත ශක්තීන් එකතු කිරීම නවත්වා අතීතයේ එකතුකර, ගබඩාකර පවතින සියලු කර්ම බීජද සළාහැර, ප්‍රහාණය කර ඒවා භාවිතයෙන් ද වැළකී, මිදී නිදහස් වීම නිවන් අවබෝධ කර ගැනීමයි.

බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළ "සංවර සීලය" යනු යම්කිසි සිල්වතක් සමාදන්වීම හෝ සිල්වතක් රැකීම හෝ ධුතාංගයක් රැකීම හෝ කරමින් කල්ප ගණනක් කාලය ගත කළත් සම්පූර්ණ කරගත හැකි සංවර සීලයක් නොවේ. ඉන්ද්‍රියයන් හරහා එකතු කරගන්නා ගති ලක්ෂණයන් පිළිබඳව යථාභූත ඥාණයෙන්, යෝනිසෝමනසිකාරයෙන් නොදැක, "සං" නොදැක, සිල්වතක් සමාදන් වීමෙන් හෝ සිල්වතක් රැකීමෙන් හෝ ධුතාංගයක් සමාදන් වීමෙන් හෝ නිවනට උපකාරවන සංවර සීලයේ නොපිහිටන බව නිවැරදිවම තේරුම් ගැනීම ඉතාම වැදගත්ය.

"යං සමාදානං තං වතං - සංවරට්ඨේන සීලං"

යන පදයේ බුදුපියාණන් වතක් සමාදන් වීමෙහිත් සංවර වී සීලයේ පිහිටා කටයුතු

කිරීමෙහිත්, වෙනස්කම් ඉතාම පැහැදිළිව ප්‍රකාශ කර වදාළ සේක. මේ අනුව සමාදන් වී රකින සිල්වතක් "සං" දැක, සංවර වී, සංවරත්වය තුළින් පිහිටන සීලයත් යන දෙක එකක්ම නොව දෙයාකාර දෙවිධියක ක්‍රියා දෙකක් බව තේරුම් ගත යුතුය. එකක් සමාදන් වී තාවකාලික වෙන්වීමකි. අනික පූර්ණ යථාවබෝධයෙන් සම්පූර්ණයෙන් ම වැළකී, වෙන් වී නිදහස් වීමකි.

එදා බුදුපියාණන් වැඩසිටි යුගයේ ජන්බුද්වීපයේ පැවති ආගම් හැට ගණනකම මූලික හරය වූයේ යම් සිල්වතක්, ධුතාංගයක් සමාදන් වී ඒ වත, ඒ සීලය රැකීම පරම ආහාරය කොට එයම පරම විමුක්තියට පත්වීමේ එකම මඟ ලෙසින් තේරුම්ගෙන ක්‍රියා කිරීමයි. නිගණ්ඨ වත ගැන නිගණ්ඨයින් කල්පනා කළේ විමුක්තිය සඳහා වූ එකම සිල්වත එයම ලෙසයි. බුදුපියාණන් වසර හයක්ම එදා ජන්බුද්වීපයේ පැවති සියලු ආගම්වල විවිධ ආකාර වූ සිල්වත්, ධුතාංග, ප්‍රායෝගිකවම අත්හදා බලා ඒ කිසිම වතකින් හෝ සිල්වතක් රැකීමෙන් හෝ ධුතාංගයකින් හෝ නිවන, ප්‍රඥා විමුක්තිය නොලැබෙන බව අධ්‍යයනය කර, පර්යේෂණ කර යථාවබෝධය ලබාගත් බව බ්‍රහ්මජාල සූත්‍රයේ පෙන්වාදුන් කරුණු වලින්ම මනා ලෙස ඔප්පුවෙයි. මේ කිසිඳු ආගමක, කිසිඳු සිල්වතක, "සංවර" වීමෙන් ලබන සංවරත්වයෙන් පිහිටන ඉන්ද්‍රිය සංවර සීලය පිළිබඳ දැනුමක් හෝ ඉගැන්වීමක් හෝ නොතිබූ බව දුටු බුදුපියාණන් සංවර සීලයේ පිහිටුවා ක්‍රියා කිරීම ම පමණක් නිවනට, පූර්ණ විමුක්තියට මඟ බව නිවැරදිවම පෙන්වා වදාළහ. බුදුපියාණන් වැඩසිටි එකල ඇදහූ සියලු ආගම්වල හරය වූ සිල්වතක් රැකීම, ධුතාංගයක් රැකීම මෙන්ම විවිධ ආකාර වූ වතක පිහිටා කටයුතු කිරීම හෝ වතක් සමාදන් වීම මේ ලෞකිකත්වය තුළම අතරමං වෙන, සංවරත්වයට බාධාවන් වන වතක් රැකීමක්ම පමණක් බව දැක සීලබ්බත පරාමාසයෙන් ද වෙන්වී, මිදී නිදහස්වීම නිවන් දැකීමට අත්‍යාවශ්‍ය වූ සංයෝජනයකින් මිදීමක් බවද ප්‍රකාශ කර වදාළ සේක. සිල්වතකම එල්ලී, සිල්වත්කම පරම ආහාරය කොට, එකම විමුක්ති මාර්ගය කොට, දැඩි දෘෂ්ඨියකට පත්වීම දෘෂ්ඨිගතවී කටයුතු කිරීම, යම් බැඳීමක් සංයෝජනයක් මිස සංවරත්වයට පත්වීමක් නොවන බවද දේශණා කළ සේක. සියලු දෘෂ්ඨි වලින් මිදී, සියලු වත්වලින් මිදී නිදහස් වීමම නිවන ලෙස ද දේශණා කළ සේක. සම්මා (සං+මා) දෘෂ්ඨියෙහි පිහිටීම යනු එකතු කරගත් සියලු ගති ලක්ෂණවලින් පූර්ණ ලෙස මිදී නිදහස් වීමයි.

මේ ප්‍රකාශය ගැන කළබල නොවී, ඉවසීමෙන් විමසා බලා, කිහිප වරක් කල්පනා කර මනස මෙහෙයවා තේරුම් ගත යුතුය. මජ්ඣිම නිකායේ එන නිවාපම සූත්‍රයේත්, චුල්ලහත්ථිපදෝපම සූත්‍රයේත් තවත් සූත්‍ර දේශණා රාශියකමත් ඉතාම සරළ ලෙසත්, ඉතාම පැහැදිළි ලෙසත් බුදුපියාණන් පෙන්වා වදාළේ යථාවබෝධයෙන් පිහිටන සංවර සීලය පිළිබඳවයි. මෙය සමාදන් වීමෙන් හෝ සමාදන් කරවීමෙන් හෝ පිහිටිය හැකි සීලයක් නොවේ. ලැබූ ධර්මාවබෝධය නිසාම සංවර වී පිහිටන සීලය "පටිවිරතෝ හෝති" නැතහොත් වෙන්වී, වාරණය කිරීම බව එහිදී ප්‍රකාශ කර ඇත.

පාණාතිපාතං පහාය පාණාතිපාතා පටිවිරතෝ හෝති
අදින්නාදානං පහාය අදින්නාදානා පටිවිරතෝ හෝති
අබ්‍රහ්මචරියං පහාය බ්‍රහ්මචාරී හෝති

මුසාවාදං පහාය මුසාවාදා පටිවිරතෝ හෝති
පිසුණං වාචං පහාය පිසුණා වාචා පටිවිරතෝ හෝති
ඵරුසං වාචං පහාය ඵරුසා වාචා පටිවිරතෝ හෝති
සම්ඵප්පලාපං පහාය සම්ඵප්පලාපා පටිවිරතෝ හෝති
යනු සංවරත්වයෙන් සීලයේ පිහිටීමයි.

මෙතැන පටිවිරතෝ හෝති යනු යම් සමාදන්වීමක් පමණක්ම නොවේ. සීලයක් රැක අත්කරගත හැකි දෙයක් නොවේ. සංදිට්ඨික තත්ත්වයට පත්වී "සං" දැක, එකතු කිරීමේ ආදීනව හා ආනිසංස තේරුම් ගෙන සම්බන්ධයෙන් මිදී, නොබැඳී, නොඇලී රති - විරති කර, පටි ගළවා සංවර වීමයි. ධම්මෝ සංදිට්ඨිකෝ වී, දස්සනේන සම්පන්නෝ වී, සම්මා දිට්ඨිය තේරුම් ගැනීමෙන් ම පමණක් පටිවිරතෝ හෝති යන තත්ත්වයට ද පත්විය හැක. සිල් රැකීමෙන් හෝ වතක් සමාදන් වීමෙන් හෝ පටිවිරතෝ හෝති යන තත්ත්වය පූර්ණ කරගත නොහැකිය. විශුද්ධි මාර්ගය ගුරු කොට ගැනීම නිසා එදා සිට අද දක්වාම හැම බෞද්ධයෙකුම "සික්ඛාපදං සමාදියාමි" යැයි වතක් සමාදන් වී සංවර වීමට උත්සාහ දැරුවත් "සං" නොදැක, සංවරත්වයට පත්වීමක් නම් සිදුනොවේ.

බුදුපියාණන් පෙන්වා වදාළ පිරිසිදු නිවන් මග වූ "ආසවා සංවරා පහාතබ්බා" යන්න අද හෝ යම් බෞද්ධයෙකුට නිවැරදිව තේරුම් ගන්නට හැකියාව, ශක්තිය ලැබුණහොත් සීලබ්බතපරාමාස නැමති සංයෝජනයෙන් ද මිදී, සංවරත්වයෙන් සීලයෙහි ද පිහිටා නිවන නිදහස සඳහා ප්‍රතිපත්ති පුරාගත හැකිවෙයි.

"සුත්වාන සංවරේ පඤ්ඤා සීලමයේ ඤාණං" යනුවෙන් බුද්ධ වචනයෙන්ම විස්තර කළේ සංවරත්වයට පත්වී, සීලයේ පිහිටීමක් මිස සීලයෙන් සංවර වීමක් ගැන නොවන බවද ඉතාම පැහැදිළිය.

පන්සිල්, අටසිල්, දසසිල්, සාමණේර සිල්වැනි සිල්වතක් රැකීම, සීලයක් සමාදන් වී යහපත් ජීවිතයක් ගත කිරීම මිනිසෙකු වූ හැම කෙනෙකුටම ප්‍රයෝජනවත් සමාජයට සුවදායක ක්‍රියාවකි. සිල්වතක් රැකීම, සීලයක් සමාදන් වී කටයුතු කිරීම වැළැක්වීමේ හෝ එය නරක, නුසුදුසු දෙයක් යැයි පෙන්වා දීමට හෝ කරන උත්සාහයක් මේ ප්‍රකාශවල නැත. යහ පැවැත්මක් සඳහා සුචරිත සමාජයක් සඳහා ලෞකික සමාජ සම්මත සැප විඳීම සඳහා සිල්වත් රැකීම බොහෝ සේ උපකාර වෙයි. බුදුපියාණන් නිවන් මග සොයා පැහැදිළි කර දෙන්නට පෙර අනන්ත අප්‍රමාණ කාලයක පටන් මිනිස් ඉතිහාසයේ පෙහෙවස් සමාදන් වීම කරගෙන ආ බව ඉතාම පැහැදිළිය. දස රාජ ධර්මයෙන් රජකළ සියලුම රජවරුන්ගේ ලෞකික සැපත සඳහා පන්සිල්, අටසිල් රැකීමද අනිවාර්යය අංගයක් විය. මහාමායා දේවියද සිද්ධාර්ථ උප්පත්තිය සිදුවන අවස්ථාවේ පවා අටසිල් සමාදන්ව සිටි බව බුද්ධ ඉතිහාසයේ පෙන්වා දී ඇත. බෞද්ධයින්ට පමණක් නොව හැම මිනිසෙකුටම පන්සිල්, අටසිල් වැනි සීලයක් රැකීම ලෞකික පැවැත්ම යහපත් කරගැනීම සඳහා මහෝපකාරී වේ. ඒ නිසා සිල් රැකීම, සිල්වතක් සමාදන් වීම වැරදි ක්‍රියාවක් හෝ නුසුදුසු ක්‍රියාවක් යැයි පෙන්වා දීමේ උත්සාහයක් කිසිසේත්ම මෙහි නැත.

බුදුපියාණන් සොයා දැන, පෙන්වා වදාළ උතුම් නිවන් අවබෝධකර ගැනීමේ එකම බලාපොරොත්තුවෙන් ක්‍රියා කරන ලෞකිකත්වයෙන් සදහටම මිදෙන්නට තීරණය කරගත් මිනිසෙකුට නම් සීල්වතක් රැකීමේ, සීලයක් සමාදන්වීමේ සම්මත ක්‍රියාවෙන් ඉදිරියට ගොස් සංවරත්වයෙන් සීලයේ පිහිටා කටයුතු කිරීමේ ක්‍රියාමාර්ගයන් තේරුම් ගෙන ඒ අනුගමනය කළ යුතු බව අවධාරණයෙන් ප්‍රකාශ කිරීම මෙහි එකම උත්සාහයයි. ඒ නිසා සිල්වතක් රැකීම හා සංවරත්වයෙන් සීලයේ පිහිටීම යන ක්‍රියාමාර්ග දෙකෙහි වෙනස නිවැරදිව දැන හඳුනා, ඉන්ද්‍රියයන් හයම සංවර කර ගැනීමෙන්ම පමණක් සීලයේ පිහිටා කටයුතු කිරීම නිවන් අවබෝධ වීමට උපකාරවන එකම මඟ බවද දැකිය යුතුයි. මෙම ප්‍රකාශය බුද්ධාගමෙහි පෙන්වා දෙන සිල් රැකීම, සිල් සමාදන්වීම වෙනස් කිරීමට හෝ ඊට විරුද්ධ වීමට හෝ කරන ප්‍රකාශයක් හෝ උත්සාහයක් හෝ නොවන බව තේරුම් ගෙන සංවරත්වයෙන් සීලයේ පිහිටා කටයුතු කිරීමේ නිවැරදි මඟට පිවිස නිවන් මඟ හෙළි පෙහෙළි කරගැනීමට අතරමං වී යන සංසාර ගමනෙන් සදහටම අත්මිදෙන්නට ක්‍රියාකරන අතළොස්සකට හෝ නිවැරදි මඟ පෙන්වා පැහැදිළි කරදීමේ එකම අරමුණෙන් කරන සත්‍යය ප්‍රකාශයක් පමණක් බවද සළකත්වා.

ශාසන ළදරුවන් පළමු කොට පන්සිල්, අටසිල්, දසසිල් ආදී සීල සමාදන් වී, සිල් රැක ඒ තුළින් යම් ශික්ෂණයක් ලබා දෙවනුව පරම පවිත්‍ර බුද්ධ ධර්මයම අසා "සුත්වාන සංවරේ පඤ්ඤා සීලමයේ ඥාණං" යන උතුම් තත්ත්වයට ද පත්විය යුතුමය. සම්මතයෙහි ඇලී කටයුතු කරනවාට වඩා යථාභූත ඥාණයෙන් මේ ගැන කිහිපවරක් සිතා ඇත්ත ඇති සැටියෙන් තේරුම්ගෙන කටයුතු කරන්නට හැම මිනිසෙකුටම සත්‍යාවබෝධය ලැබේවා.

එදා බුදුපියාණන් වැඩි සිටි යුගයේ ධර්මය ශ්‍රවණය කරන්නට බුදුපියාණන් ඉදිරියේ වාඩි වූ කිසිවෙකුටත් පළමු කොටම බුදුපියාණන් පන්සිල්, අටසිල් හෝ වෙනත් කිසිම සීලයක් හෝ සමාදන් නොකරවූ බවත්, තිසරණයෙහි නොපිහිට වූ බවත් ඉතාම පැහැදිළිය. නමුත් ධර්ම දේශණාව ශ්‍රවණය කිරීමෙන් පසුව වාඩි වී සිටි තැනින් නැගිට්ටේ සංවරත්වයේ, සීලයේ පිහිටා, තිසරණ සරණ ගිය මඟඵලලාභී උත්තමයෙකු ලෙසින්ය. ත්‍රිපිටකයේ හැම තැනකම පෙන්වා ඇති මේ සත්‍යය හැම කෙනෙකුම තේරුම් ගත යුතුය. මිනිසුන් කිහිපදෙනෙකු නොව නිවන් අවබෝධ කරගත් මඟඵල ලැබූ කෝටි ගණනක් මිනිසුන්ට එදා මේ මඟ මිස වෙනත් මඟක් ඒ සඳහා සරණ නොවීය. කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය ලබා පරතෝඝෝෂක ප්‍රත්‍ය හා පරම පවිත්‍ර සිරි සද්ධර්මයද ශ්‍රවණය කිරීමෙන්ම මාර්ග ඵල අවබෝධයට අත්‍යාවශ්‍ය වන අංගයක් සම්පූර්ණ කරගන්නවා මිස සිල්වතක් රැකීම ඒ සඳහා අවශ්‍ය අංගයක් ලෙස ත්‍රිපිටකයේ නම් කොතැනකවත් පෙන්වා වදාරා නැත. නොපැකිළ නොබියව මේ අදහස් ලෝකයා වෙත පැහැදිළිකර දියයුතු වන්නේ පරම පවිත්‍ර බුද්ධ ධර්මය අසා දැන, පිරිසිදු නිවන් මඟ අත්විඳින්නට පින් ඇති මිනිසුන්ට ද සිතා බලන්නට අවස්ථාව උදාකර දීම සඳහාමය. මංමුළා වූ අතරමං වූ මිනිසුන්ට ද සිතා බලා කටයුතු කරන්නට නිවැරදි මඟ පෙන්වා දීම සඳහාමය.

## අනුපුබ්බංගම නිවන් මඟෙහි ඉදිරි පියවරයන්

සබ්බාසව සූත්‍රයේ පෙන්වා වදාළ පරිදි මෙම නිවන් මාර්ගය අනුපුබ්බංගම නිවන්

මාර්ගයකි. එහි පළමුවන පියවර පළමුකොටම තේරුම් නොගෙන දෙවන හෝ තුන්වන පියවරකින් පටන් ගැනීමෙන් නිවන් මඟ පූර්ණ කරගත නොහැකිය. සෝතාපන්න මඟ ඵලයට පත්වීම සඳහා මිනිසෙකුට උපකාර වන දස්සනේන පහාතබ්බා යන පළමු පියවරත්, සංවරේන පහාතබ්බා යන සංවර සීලයේ පිහිටා කටයුතු කරන්නට උපකාර වන දෙවන පියවරත් නිවැරදිව තේරුම් ගත් කෙනෙකුට ඊළඟ පියවරයන් අනුගමනය කරන්නට බාහිර කාගේ හෝ උපදෙස් හෝ මඟ පෙන්වීමද අවශ්‍ය නොවේ. ඒ සඳහා වීර්යය, උත්සාහය ගැනීමද අවශ්‍ය නොවේ. ලැබූ යථාවබෝධය නිසාම "ධර්මයෝ ධර්මයෝ පවත්වති" යන න්‍යායට අනුව ගඟක් මුහුද කරාම ගලාගෙන යන්නා සේ ඒ පුද්ගලයා නිවන කරාද ගමන් කරයි.

කෙසේ වෙතත් ඊළග පියවරයන් පිළිබඳවත් දැනගෙන සිටීම ඉතාම වැදගත්ය. මේ හැම පියවරකින්ම සිදුවන්නේ මෙතෙක් සිත අඳුරු කර, සිත වසා සිටි ආසව තට්ටු ප්‍රහාණය කර, කුණු සළාහැර, චිත්තපාරිශුද්ධියට පත්වීමට අවශ්‍ය කටයුතු සම්පූර්ණ කර ගැනීමයි. හැම පෘථග්ජන පුද්ගලයෙකුගේම සිතෙහි ඇති ආසව කොටස් තුනකට බෙදා බුදුපියාණන් පෙන්වා වදාළ සේක.

01. කාමාසව 02. භවාසව 03. අවිද්‍යාසව

යනු මේ කොටස් තුනයි. මෙම ආසව තට්ටුවලින් සිත මුවහ කර, වසා සිටින තුරාවට කිසිම පෘථග්ජන පුද්ගලයෙකුට මේ පැවැත්ම ජීවත්වීම යන හේතුඵල පරම්පරාවෙහි සත්‍යම වූ ස්වරූපය ඇත්ත ඇති සැටියෙන් දැකගත නොහැකිය. ඒ ආසව තට්ටු පහකර දමා කුණු සළාහැර ආසව තට්ටුවලින් සිත මුදවා ගත්තොත් එතැනදී ප්‍රඥාව උදාවෙයි. පැවැත්මෙහි ඇත්ත, ඇති සැටියෙන් යථාභූත ඥාණයෙන් දැක ගන්නට ලැබෙයි. පැවැත්මේ නිසරු බව, නොවටිනා බව දැකගත් පසුව දුක අවබෝධ වෙයි. ඒ මොහොතේ පටන් හැකි ඉක්මනින් මේ කුණු කන්දරාවම පහකර දමා නිදහස්වීම එකම අරමුණ කරගනී. ගමන නවතා දමා රිය අරිය කිරීම එතැන් පටන් සිතෙහි පවත්වන එකම අපේක්ෂාවයි. පළමුවන හා දෙවන පියවරයන් අවබෝධ කරගත් පුද්ගලයා අරිය උත්තමයෙකි. දෙවන පියවරේදී ලැබූ යථාවබෝධය නිසාම ඉන්ද්‍රියයන් හයෙන්ම මේ තාක් එකතු කරමින් සිටි විඤ්ඤාණ ආහාර එකතු කිරීම නවත්වා ඉන්ද්‍රියයන් හයම සංවර කරගෙන ඇත. ඒ ඉන්ද්‍රියයන් සංවර කරගත යුත්තේ ලැබූ යථාවබෝධය නිසාමය. සංවරත්වයට පත්වීමත් සමඟම ලැබූ සත්‍යාවබෝධය නිසා තුන්වැනි පියවර වන පටිසේවනා පහාතබ්බා සිට විනෝදනා පහාතබ්බා යන හයවන පියවර දක්වාම ක්‍රමානුකූලව ආසව ප්‍රහාණය කර චිත්ත පාරිශුද්ධතාවට පත්වීමට අවශ්‍ය පියවරයන් සම්පූර්ණ කරගත හැකිවෙයි.

පටිසේවනා පහාතබ්බා යනු පටිසංඛා යෝනිසෝමනසිකාරයෙන් යුතුව කටයුතු කිරීමයි. පැවිද්දෙකු නම් දායකයින්ගෙන්, අනුගාමිකයින්ගෙන්, අනුග්‍රාහකයින්ගෙන් ලබාගන්නා සිවුපසයට නොබැඳී, වහල් නොවී, ඊට නොඇලී දානය දෙන පුද්ගලයාට නොබැඳී ප්‍රත්‍යවේක්ෂා නුවණින් යුතුව සිවුපසය පරිභෝග කිරීමයි. රස තෘෂ්ණාවෙන්, ප්‍රිය මධුරතාව පතා යමක් උපාදානය කර ගන්නට සම්බන්ධ වන්නට හෝ ඒ මත්තේම

යැපෙන්නට හෝ කටයුතු කිරීමෙන් වැළකී චතු අරිය සත්‍යාවබෝධය පූර්ණ කර ගැනීමේ එකම අරමුණෙන් සිවුපසය පරිභෝග කිරීමට පුරුදුවීම, පුහුණුවීම පටිසේවනා පහාතබ්බා යන්නෙහි තේරුමයි. දෙවන පියවරේ දී සංවරා පහාතබ්බා සම්පූර්ණ කරගත් කෙනෙකු ඉන්ද්‍රිය හයම සංවර කරගෙන ඇති නිසා ඉන්ද්‍රියයන් පිනවන්නට, රස තණ්හාවෙන් රස බලන්නට, රස විඳින්නට කටයුතු කිරීමෙන් වැළකී නිදහස් වෙයි. ධර්ම මාර්ගයේ හැසිරී චතු අරිය සත්‍යයන් අවබෝධ කරගෙන නිවන නිදහස පූර්ණ කර ගැනීමේ එකම අරමුණ ඇතිව මේ කය පවත්වාගෙන යනු මිස සැප සුව පතා යමක් ඉල්ලා ලබාගෙන, පරිභෝග කිරීමෙන්ද වැළකෙයි.

අධිවාසනා පහාතබ්බා යනු ඉවසීමෙන් කටයුතු කර සැනසීම අත්කර ගැනීමයි. සීතල, උෂ්ණ, මැසි මදුරු, සර්පයින් ආදී බාහිර කරදර, උපද්‍රව ඉවසා දරා ගැනීමත්, ඒවා මඟහැර ඒවාට නොපැටළවී අතහැර, නිදහස් වීමත්, සැර පරුෂ වචන භාවිතා කරන්නන් මෙන්ම සංදර්ශන, සන්නිවේදන, සංචාරයන්ගෙන් ද වෙන් වී ඒවා බැහැර කොට, ඒවාට නොඇලී කටයුතු කිරීමත් අධිවාසනා පහාතබ්බා යනුයි.

පරිවජ්ජනා පහාතබ්බා යනුවෙන් පෙන්වා වදාළ ඊළග අවස්ථාව, ඇති විය හැකි බාහිර බාධක, උපද්‍රව මඟහැර ඒවායින් මිදී නිදහස් වීමයි. නපුරු මිනිසුන්, අඥ බාල මිනිසුන් මෙන්ම නපුරු රුදුරු තිරිසන් සතුන්ගේ ආශ්‍රයෙන් ද ඉවත් වී, ඔවුන් මඟහැර තමාම ඉවත් වීමයි. නුසුදුසු වාසස්ථානවලින් මිදී නිදහස් වීමද නිවන් මඟට බාධක ඇති සුව පහසු යානවාහන, නිදියහන්, මන්දිර මෙන්ම ප්‍රත්‍යන්ත ප්‍රදේශවලින් ද ඉවත් වී, වෙන්වී යාම පරිවජ්ජනා පහාතබ්බා යන කොටසට අයත්ය. යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කර මෙවැනි දේවල හේතුඵල ධර්මතාවම තේරුම්ගෙන හේතුන්ම අතහැර, මඟහැර, හේතුවෙන්ම මිදී, පරම්පරාවෙන් ද මිදී නිදහස් වීමයි. අන්තරායකාරී දේ ආශ්‍රය කිරීම මෙන්ම ප්‍රිය මනාප දේටම ඇලීමද නිවනට බලවත් බාධක ලෙසින්ම දැක ඒවා මඟහැර යා යුතුයි.

විනෝදනා පහාතබ්බා යනු ඊළග අවස්ථාවයි. මේ පියවර නිවන් මාර්ගයේ ඉතාම වැදගත් අවස්ථාවකි. තම සිත තුළින්ම උපත ලබන කාම විතක්ක, ව්‍යාපාද විතක්ක, විහිංසා විතක්ක දැන හඳුනාගෙන ඒවා සියල්ලම ලෝභ - අලෝභ, ද්වේෂ - අද්වේෂ, මෝහ - අමෝහ ගති ලක්ෂණයන් නිසාම උපත ලබන සමුදය ධර්මයන් බව තේරුම් ගෙන ඒවා ප්‍රහාණය කර, නිදහස් වීම විනෝදනා පහාතබ්බා යනුයි. මිනිසෙකුගේ සිතක මතුවන සියලුම අවිද්‍යා සංඛාර මතු වන්නේ කාම විතක්ක, ව්‍යාපාද විතක්ක හෝ විහිංසා විතක්ක ලෙසින්ම පමණි. අතීත සම්බන්ධතා පවතින තුරාවට මෙවැනි විතක්ක මතුවී විචාර පැවැත්වීම ද ස්වභාවික දෙයකි. හේතුඵල දහම ගැන මනා වැටහීමක් ලැබුවෙකු මෙවැනි විතක්ක විචාර සිතෙහි අරමුණු වෙනවාත් සමඟම ඒවා දැක, දැන හඳුනා ඒවායින් ඉවත්වීමට පුරුදු විය යුතුය. මෙම විතක්ක විචාර අතහැර ඒවායින් නිදහස්වීම සඳහා නෙක්ඛම්ම සවිතක්ක සවිචාර පැවැත්වීම අව්‍යාපාද සවිතක්ක සවිචාර පැවැත්වීම අවිහිංසා සවිතක්ක සවිචාර පැවැත්වීමට ද පුරුදු පුහුණු කරගත යුතුයි.

කාම විතක්ක, ව්‍යාපාද විතක්ක, විහිංසා විතක්ක සිතෙහි අරමුණු වීම සහමුලින්ම නැතිකර ගැනීම සඳහා පරම මෙත්තා භාවනාවක් පුරුදු පුහුණු කර ගැනීම සියලු ලෝක

සත්ත්වයා වෙත සම මෙත පැතිරවීමට පුරුදු පුහුණුවීම හැම කෙනෙකුම අනිවාර්යයෙන්ම කළ යුතු දෙයකි. සංසාරයේ අනන්ත අප්‍රමාණ කාලයක සිට එකතු කරගත් ද්වේෂ - අද්වේෂ ගති ලක්ෂණයන්ගෙන් සදහටම මිදී නිදහස්විය හැකි වන්නේ පරම මෙත් පැතිර වීමෙන්ම පමණි.

හේතුඵල දහම දැක ත්‍රිලක්ඛණය අවබෝධ කරගත් පසුව ලෝක සත්ත්වයා කෙරෙහි උපන් අවංක අනුකම්පාවෙන් ඔවුන් කෙරෙහි සම මෙත පැතිරවීමට ශක්තියක් හැකියාවක් ලැබුණු පසුව සිතක කාම විතක්ක, ව්‍යාපාද විතක්ක, විහිංසා විතක්ක මතුවූවත් ඒවා දිගේ දිගින් දිගටම සිතා රෝද ගසා කටයුතු කිරීමෙන් වැළකී ඒවා නිරෝධ කර සිත සමනය කර ගනී. මේ අවස්ථාව වන විට ලැබූ ධර්මාවබෝධය සත්‍යාවබෝධය නිසා සතියෙහි පිහිටා සියලු කටයුතු කරන්නටද පුහුණුව ලැබෙයි. එය සතර සතිපට්ඨානයේ පිහිටා කටයුතු කිරීමයි.

අනුපුබ්බංගම නිවන් මාර්ගයේ අවසාන පියවර වන්නේ භාවනා පහාතබ්බා යන අංගයයි. වෙනකිසි ආකාරයකින් ක්‍රියාමාර්ගයකින් ප්‍රහාණය කරගත නොහැකි බලවත් අවිද්‍යාසව කොටසක් රූප රාග, අරූපරාග, මාන, දිට්ඨි, අවිද්‍යා ලෙසින් තවමත් සිතෙහි රැඳී පවතී.

දැන් මේ අවස්ථාව වන විට ලැබූ යථාවබෝධය නිසාම දස්සනයෙන් පහකළ යුතු ආසව කොටස් පහකර, කුණු සළාහැර, ඉන්ද්‍රියයන් හයම සංවරත්වයට පත්කර, සීලයෙහි පිහිටා, අලුතින් ආසව එකතු කිරීමද නතර කර, කාම විතක්ක, ව්‍යාපාද විතක්ක පහකර, විපස්සනා අනුපස්සනා නුවණ මතුකරගන්නට තරම් යථාවබෝධය ශක්තිමත් වී ඇත. භාවනාවෙන් පහකර ගත යුතු ආසව කොටස් ප්‍රහාණය කරන්නට විපස්සනා අනුපස්සනා නුවණම උපකාර කර ගත යුතුය. ඒ නිසා බුද්ධ භාෂිතයේ ගෙනහැර දක්වූ විපස්සනා අනුපස්සනා භාවනාව වෙනත් කිසිඳු ආගමික දර්ශනයක පෙන් වූ එකක් නොවේ.

මහා කල්ප 91ක පටන් එකතු කරගත් ගතිගුණ, ගති ලක්ෂණ, කාමාසව, භවාසව හා අවිද්‍යාසව ලෙසින් තම චිත්තසංථානය තුළම ගබඩා වී පවතී. මෙවන් බලවත් ආසව තට්ටු සළාහැර, ප්‍රහාණය කර චිත්තපාරිශුද්ධතාවයට පත්විය හැකි වන්නේ විපස්සනා අනුපස්සනා භාවනාවකින් පමණි. මෙතැනදී කළයුතු වන්නේත් සිදුවන්නේත් මහා කල්ප ගණනක් තුළ චිත්තසංථානය තුළ ක්‍රියාත්මක වෙමින් පැවති කර්මජ බීජ, ආසව ක්‍රමයෙන් ප්‍රහාණය කර දැමීම නිසා ලෝකෝත්තර කුණු සළාහැර, ශුද්ධ පවිත්‍ර වීම නිසා, සත්තසම්බොජ්ජංග සම්පූර්ණ වීමයි. සත්තසම්බොජ්ජංග යනු බුද්ධියේ අංග හතයි. හැම පෘථග්ජන මිනිසෙකුගේම සිතෙහි මේ අංග හතම රැඳී පැවතුනත් ලෝභ - අලෝභ, ද්වේෂ - අද්වේෂ, මෝහ - අමෝහ යන කෙළෙස් නිසා ඒවා වැසී ආවරණය වී පවතී. කුණු සළාහැර ඉවත්කරත්ම කෙළෙස් ප්‍රහාණය කරත්ම බුද්ධියේ අංග හතම නිරාවරණය වී ප්‍රඥාව මතුවෙයි. ප්‍රඥාව යනු ප්‍රකෘති ඥාණයයි. ඥාණයේ පරම තත්ත්වයයි. ප්‍රඥාව යනු නැවත කවදාවත් කෙළෙස් නිසා කුණු නිසා, කිළිටි කළ නොහැකි, අඳුරු කළ නොහැකි,

වසා මුවහ කර තැබිය නොහැකි පිරිසිදු තත්ත්වයකි. ප්‍රඥාලෝකය උදාවීමත් සමඟම මෙතෙක් සිතින් මවාගෙන සිටි ලෝකය අලෝක වෙයි. විඤ්ඤාණ තත්ත්වයෙන් තොර චිත්තය, ඉතාම පිරිසිදු, ශාන්ත වූ කම්පා නොවන, විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිණාමී තත්ත්වයකි.

සිත මේ පිරිසිදු තත්ත්වයට පත්වීම යනු අලුතින් සිතක් හෝ ප්‍රඥාවක් හෝ බුද්ධියක් හෝ වර්ධනයක් කර ලබා ගන්නා එකක් නොවේ. මෙතෙක් සිත අඳුරු කර, මුවහකර වසා සිටි සිත විකෘති කළ, විෂම තත්ත්වයට පත් කළ කුණු සළාහැර විඤ්ඤාණ තත්ත්වයෙන් මිදී පරම පවිත්‍ර තත්ත්වයට පත් කරගැනීමයි.

සිතින් එකතු කරගත් කර්මජ බීජම භාවිතා කරමින් මෙතෙක් කලක් "සං" සාරය කියා "සං" එකතුකරගෙන ගිය සංසාර රිය ගමන පිළිබඳව ඇත්ත ඇති සැටියෙන් දැක, අවිද්‍යාවෙන්, තණ්හාවෙන් සාරයි කියා නිගමනය කර ගිය ගමන නිමාකොට "සං" එකතු කිරීමට මෙතෙක් කලක් රෝද කළ සිත රෝද - නිරෝධ කර, රාග - විරාග කර, රිය - අරිය කර, භූත - අභූත කර, ජාත - අජාත කර, සංඛත - අසංඛත තත්ත්වයට පත්කර ගැනීම ලෝකය රහබැලීම සම්පූර්ණයෙන්ම අත්හැර ලෝක - අලෝක කර, ලෝකය රහබැලීම අවසන් කිරීම අරහත් තත්ත්වයට පත්වීමයි.

## භාවනේය පහාතබ්බා විපස්සනා අනුපස්සනා භාවනා ක්‍රමය

බුදුපියාණන් පෙන්වා වදාළ අරිය භාවනා ක්‍රමය එනම් විපස්සනා භාවනාව, වෙනත් කිසිම ආගමක හෝ දර්ශනයක හෝ නැති බුද්ධ භාෂිතයේම පමණක් පෙන්වා දුන් කර්මස්ථාන භාවනා ක්‍රමයකි. බුදුපියාණන් පෙන්වා අනුදැන වදාළ කර්මස්ථානයෝම භාවනා කිරීමෙන් පමණක් චන්දරාගය දුරලා ව්‍යාපාදයෙන්, ද්වේෂයෙන්, විහිංසාවෙන් වෙන් වී මෝහයෙන් මිදී, ලෝකෝත්තර කුණු සළාහැර නිවන් අවබෝධ කරගන්නටම උපකාර වන එකම මඟ විපස්සනා භාවනා මාර්ගයයි.

සිතකට අරමුණු වන සංඛාර බොහෝ විටම අවිද්‍යා මූලික සංඛාරයෝය. කාම විතක්කයක්, ව්‍යාපාද විතක්කයක් හෝ විහිංසා විතක්කයක් දිගේම සිතින් රවුම් ගැහුවොත්, ආදීනව අවස්ථාවන්ම පසුකර, එම විතක්කයට අදාළ වූ චිත්තජ ශක්තියක් බිහිවෙයි. එය කර්මජ බීජයක් ලෙස චිත්තසංථානයේ තැන්පත්වීමද ඒ සමඟම සිදුවෙයි. විපස්සනා නුවණ මෙහෙයවා යමෙක් කරගතයුතු වන්නේ සිතෙහි මතුවන මෙවන් අරමුණු කාම විතක්කයක්, ව්‍යාපාද විතක්කයක් හෝ විහිංසා විතක්කයක් වැනි අවිද්‍යා සංඛාරයක් අරමුණු කරගත්තේ නම් එම විතක්කය සිතෙහි මතු වෙනු දැක ඒ වහාම අරමුණු ප්‍රහාණය කර ඉන් මිදී නිදහස් වීමයි.

නිතර නිතර සිතෙහි මෙවන් අවිද්‍යා සහගත විතක්ක විචාර මතුවන්නේ නම් ඒ විතක්ක විචාර යටපත් කිරීමට සවිතක්ක සවිචාර මෙනෙහි කිරීම පුරුදු පුහුණු කළ යුතුය. මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා වැනි සම මෙත පතුරවන සවිතක්ක සවිචාර නිතර භාවනා කිරීමෙන් චන්දරාගය දුරලා වෛරය, ද්වේෂය, ව්‍යාපාදය දුරලා එවන් චිත්තජ

ශක්තීන් නිපදවීමෙන් වැළකී නිදහස්විය හැකිවෙයි.

කෙටි කාලයක් මෙවන් මෙත්තා කර්මස්ථානයක් භාවනා කරන්නට පුරුදු වූ විට, සිත සමථයකට පත්වීම ද සිදුවෙයි. දැන් සිතෙහි මතුවන්නේ ප්‍රීති, සුඛ, ඒකාග්ගතා වැනි යහපත් අරමුණුය. විතක්ක විචාර මෙන්ම සවිතක්ක සවිචාර ද අත්හැරී ක්‍රමයෙන් සිත නිදහස් වෙයි. ක්‍රමයෙන් සමාධිගත වීමත් සමඟම සිතද සමථ තත්ත්වයට පත්වී, ප්‍රීතිය හා සුඛය යන තත්ත්වයන්ද සිතට බරක් සේ දැනී, ඒවාද ටිකෙන් ටික අත්හැරී ගොස්, ඒකාග්ගතාව පමණක් සිතේ පවතී. අරිය ධ්‍යානයකදී ලබන ඒකාග්ගතාවය යනු එකම උතුම් අරමුණ වූ නිවන - නිදහස්වීම කෙරෙහි සිත පවත්වා ගැනීමයි. නමුත් අනරිය ධ්‍යානයකදී ඒකාග්ගතාවය යනු යම් ලෞකික සුවයක් විඳීමට ඇති කැමැත්තයි. ඒකාග්ගතා යනු එකම අග්‍ර වූ තත්ත්වය යන තේරුමයි. අරිය තත්ත්වයට පත් වූ යථාවබෝධය ලැබූ දස්සනේන සම්පන්න වූ පුද්ගලයෙකු තමා ලැබූ යථාවබෝධයෙන්ම අරිය ධ්‍යානයකටම පත්වනු මිස අනරිය ධ්‍යානයකට පත්වන්නේ ද නැත. ඒනිසා අරිය ධ්‍යානයකට පත්වන්නා නිවන එකම අග්‍ර තත්ත්වය කොට ඒ අරමුණෙහිම සිත පිහිටුවා ගනී.

අරිය ධ්‍යානයකට පත්වීමෙන් මෙන්ම අනරිය ධ්‍යානයකට පත්වීමෙන් ද සිදුවන්නේ කෙළෙස් දවා හැරීමයි. කුණු සළා හැරීමයි. අරිය ධ්‍යානයකට පත්වන්නා කුණු සළාහැර කෙළෙස් දවා හරිනවා යනු රිය ගමනට උපකාර වන චිත්තජ ශක්තීන් එකතු කිරීමේ ක්‍රියාවලියෙන් මිදීමට විපස්සනා නුවණ මෙහෙයවීමයි. අනරිය ධ්‍යානයකට පත්වන්නා කුණු සළාහරින්නේ මේ ලෞකිකත්වය තුළින්ම ලැබිය හැකි යම් සුවයක් වින්දනයක් ලැබීම සඳහාය. එක් කෙනෙකු මඟ දැක යායුතු ගමන යයි. අනෙකා මඟ නොදැක මත්වී, ධ්‍යානයෙහි ඇලී අතරමං වෙයි. මේ දෙදෙනාම දවා හරින්නේ තම තමන්ගේම සාරයි කියා එකතු කරගත් (සං) කෙළෙස්ය. එක්කෙනෙකු යථාවබෝධයෙන් කුණු සළාහැර නිදහස්වීමේ අරමුණ ඇතිව කෙළෙස් දවාහරී. අනෙකා කෙළෙස් දවා හැර, බර අඩුකරගෙන ඒ සුවය විඳීම සඳහා කෙළෙස් දවාහරී. අරිය ධ්‍යානයකට පත්වන පුද්ගලයා සංයෝජන ගැන අසා දැනගෙන හේතුඵල ධර්මය අසා තේරුම්ගෙන ද්වතාවය අවබෝධ කරගෙන ත්‍රිලක්ඛණය වටහා ගෙන දුක පිළිබඳව සත්‍යය අවබෝධ කරගත් කෙනෙකි. අනරිය ධ්‍යානයකට පත්වන පුද්ගලයා මේ කිසිවක අගක් මුලක් නොදැන, කවුරුන් හෝ කියූ නිසා, කරන්නන් වාලේ යම් සුවයක්, වින්දනයක් පතා භාවනා කරයි. යම් ආකාරයකින් සිත මත් වී, සුවයකට පත් වී, ඒ සුවයෙහිම ඇලී, එය විමුක්තිය සේ තේරුම් ගෙන කටයුතු කිරීම අනරිය ධ්‍යාන ලැබීමයි. අනරිය ධ්‍යානලාභීන්ටද පංච අභිඥා පවා ලබාගත හැකිවෙයි. නමුත් මෝහයේ මුල් සිඳ දමා නිදහස්වී නැත. ඒ නිසා මතු කවදා හෝ සතර අපායෙහි ද උපත ලැබීම ද සිදුවෙයි. අරිය ධ්‍යානලාභියා කෙළෙස් දවා හරින්නේ, කුණු සළා හරින්නේ ලැබූ යථාවබෝධයෙන්මය. හේතුඵල දහම දැකීමෙන්මය. ඒනිසා කවදාවත් සතර අපායකට යන ක්‍රියා, වදන්, සිතුවිලිවලට නොපැටළැවෙයි. ධර්මතාවයෙන්ම ඒවායින් මිදී නිදහස් වෙයි.

අරිය ධ්‍යානයකදී වුවත් අනරිය ධ්‍යානයකදී වුවත් දවා හරින්නේ වර්තමාන මොහොතේ සිතට අරමුණු වන අවිද්‍යා සංඛාරයෝය. අතීතයේ එකතු කරගත් කර්මජ බීජ ලෙසින් චිත්තසංථානයේ ගබඩා වී පවතින කාමාසව, භවාසව හා අවිද්‍යාසව යන බලවත්

කෙළෙස් දවා හරින්නට හැකියාව ධ්‍යානයකට ඇත්තේ නැත. මෙවන් බලවත් ආසව කොටස් දවා හැරීමට හැකියාව ඇත්තේ අරිය ධ්‍යානයකට සමවැදී විපස්සනා නුවණින්, ආසවක්ඛයා නුවණ පහළ කර ගැනීමෙන් පමණි. අනරිය ධ්‍යානයකදී ආසවක්ඛයා ඥාණය පහළ වන්නේ ද නැත.

පළමුවන, දෙවන, තුන්වන හා හතරවන ධ්‍යානයන් රූපී ධ්‍යාන ලෙසටත් එතැන් පටන් ලබන ආකාසානඤ්චායතන, ආකිඤ්චඤ්ඤායතන, විඤ්ඤානඤ්චායතන, නේවසඤ්ඤානාසඤ්ඤායතන ආදී ධ්‍යානයන් අරූපී ධ්‍යානයන් ලෙසත් නම්කර ඇත. අරූපී ධ්‍යානයකට පත් වී, විපස්සනා භාවනාවක් කිරීමටද හැකියාවක් නැත. ඒ නිසා, අරිය ධ්‍යානයකට පත්වී දෙවන තුන්වන හෝ හතරවැනි ධ්‍යානයකට සමවැදීමෙන්ම විපස්සනා භාවනාවක් ප්‍රගුණ කරගත හැකි වෙයි. මේ අනුව රූපී ධ්‍යානයන් අතරින් ද තුන්වැනි අරිය ධ්‍යානයට සමවැදී ආසවක්ඛයා ඥාණය පහළ කරගෙන විපස්සනා කිරීම නිවන් අවබෝධ කරගන්නට පහසුම හා සුදුසුම මාර්ගයයි. මේ අනුව තුන්වන අරිය ධ්‍යානයේ පිහිටා සිට විපස්සනා නුවණින් හේතුඵල දහම මෙනෙහි කරන්නට හැකි ශක්තිය ලබාගත් උත්තමයා නොබෝ කලකින්ම සියලු ආසව ඛයකර දමා කෙළෙසුන් නසා ප්‍රඥා විමුක්තියත්, අකුප්පා චේතෝ විමුක්තියත් සම්පූර්ණ කරගෙන නිවනද අත්විඳ ගන්නේය.

පංච අභිඥා ලැබීම හෝ අෂ්ට සමාපත්තියට පත්වීම හෝ අරමුණු කරගත් එවන් බලාපොරොත්තු ඇතිව භාවනා කරන යම් කෙනෙකුට ආසව ඛයකර ගැනීමේ ඥාණය පහළ වන්නේ නැත. යථාවබෝධයෙන්ම නිවන නිදහස යනු කුමක්දැයි තේරුම් ගෙන සංසාර ගමනට මුල් වූ සමුදය නිරෝධය කිරීමේ අරමුණෙන්ම විපස්සනා කිරීමෙන්ම පමණක් මෝහ මුල් සිඳ තමාම සංසාරයේ කවදා හෝ එකතු කර ගබඩා කරගත් කර්මජ බීජද (ආසව) සළාහැර බැඳගත් පටි ගළවා දමා තමාම මිදී නිදහස් විය යුතුය. වෙනත් කිසිම ආකාරයක ලෞකික සුවයක්, සැප සුව මධුර තත්ත්වයක් අරමුණු කරගෙන භාවනා කිරීමද විපස්සනා භාවනාවක් නොවේ. විපස්සනා භාවනාවක තවත් නියත ලක්ෂණයක් වන්නේ සතියෙහි පිහිටා විපස්සනා භාවනාව කළයුතු වීමයි. සතිය යනු හොඳ සිහිය ලෙසින් වැරදියට විග්‍රහ කරන්නට වීම නිසා අද භාවනා කරන බොහෝ මිනිසුන්ට සතියෙහි පිහිටා විපස්සනා කිරීමද කළ නොහැකිය. සතියෙහි පිහිටා කටයුතු කිරීම යනු සත්‍යය දැක සත්‍යයට අනුරූපව යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කිරීමයි. සත්‍යය දැකගත හැකිවන්නේ හේතුඵල දහමට බහා ගළපා බලන්නට පුරුදු පුහුණු වීමෙන්ය. හේතුඵල දහමට බහා ගළපා බැලීම පටිච්චසමුප්පාද දේශණාවට අනුව විපස්සනා කිරීම මිනිසෙකුට තේරුම්ගත හැකි ඉතාමත් සරළ දෙයකි. තමන් කරන, කියන, හිතන සෑම දෙයක්ම ආදීනව හා ආනිසංස දැක ගැනීමයි. තමන් කරන, කියන, හිතන දෙයක් නිසා එහි ඵල විපාක ලෙස තමන්ට හෝ වෙනත් ලෝක සත්ත්වයෙකුට හෝ උරුම විය හැකි ඵල විපාක දැනගෙන කටයුතු කිරීමයි. ඒ ඵල විපාක තමන්ගේ නිවන් මඟ වසා දමන නිවන් මඟ ප්‍රමාද කරවන නිවන් මඟට බාධා පමුණුවන එකක් නම් ඒ සිතුවිල්ල, ක්‍රියාව, කථාව වහාම අත්හැර ඉන් මිදී ප්‍රහාණය කර අත්හැර දැමීම කළ යුතුය. ඒ ආකාරයෙන්ම තමන් සිතන, කියන, කරන දේ නිසා වෙනත් කෙනෙකුගේ වෙනත් සත්ත්වයෙකුගේ නිවන් මඟ වසා දමන්නේ නම් නිවන් මඟ ප්‍රමාද කරන්නේ නම් නිවන් මාර්ගය අසුරා බාධා කරන්නේ නම් ඒ සිතුවිල්ල, ක්‍රියාව, කථාව අතහැර, ඉන්මිදී එයද ප්‍රහාණය කළ යුතුය.

ඒ ආකාරයෙන්ම තමාගේ හෝ වෙනත් කෙනෙකුගේ හෝ වෙනත් සත්ත්වයෙකුගේ හෝ නිවනට උපකාර වන නිවනට ඇති බාධක ඉවත් කරන නිවනට උපනිශ්‍රය වන සිතුවිල්ලක් නම් කථාවක් නම් ක්‍රියාවක් නම් එය දිගටම කිරීම කළයුතු වන්නේය. මෙය හේතුඵල ධර්මතාවය දැක කටයුතු කිරීමයි. අවිද්‍යා සංඛාර දැක, ඒවා අතහැරීමත්, කුසල මූල අරමුණු දැක, ඒවා භාවිතා කිරීමත් සතියෙහි පිහිටා කටයුතු කිරීම විපස්සනා භාවනාවයි.

මේ අනුව කෙනෙකු තේරුම් ගතයුතු වැදගත්ම කරුණ නම් සතියෙහි පිහිටා කරන සති භාවනාවකින් මිස වෙනත් කිසිම අනරිය භාවනාවකින් සත්‍යය දැක සත්‍යයේ පිහිටා චිත්තසංථානය ශුද්ධ පවිත්‍ර කරගත නොහැකි බවයි. නිවන් අවබෝධ කරගැනීමට අවංකවම උත්සාහ කරන හැම මිනිසෙකුම බුදුපියාණන් පෙන්වා වදාළ නිවැරදි මඟ පෙන්වන "සති" භාවනාවක්ම, කර්මස්ථානයක් ලෙසින් ගෙන භාවනා කරණු මිස පසුකාලෙක හඳුන්වා දුන් අනරිය භාවනා ක්‍රම භාවිතා කර සංසාරයේ අතරමං වීමට ක්‍රියා කිරීම සුදුසු නැත. සති භාවනාවක් භාවනා කිරීමට පටන්ගත් පසු නොබෝ කලකින්ම සිත නිවී මානසික හා කායික සුවයද ලබා චිත්ත සාමය හා චිත්ත ශාන්තිය ද ලැබී සමථයට පත්වීම මුළින්ම සිදුවේ.

ඉන්පසුව ක්‍රමානුකූලව තමාගේම සිත පිළිබඳව තම සිතෙහිම හැසිරීම් රටාව පිළිබඳව විපස්සනා නුවණින් ප්‍රත්‍යවේක්ෂා කර හේතුඵල ධර්මයට අනුකූලවම තමාගේම සිතෙහි මෙතෙක් කලක් ක්‍රියාත්මක වූ කාම විතක්ක, ව්‍යාපාද විතක්ක, විහිංසා විතක්ක පැවැත්වීමේ රටාවෙන් ද වෙන් වී විඥ්ඥාණයේ කැමැත්තට ඉඩනොදී මනස මෙහෙයවා කුණු සළාහැර ප්‍රඥාව උපදවා පහදා ගත යුතුය. මෙතෙක් කල් තමාගේම විඥ්ඥාණය තමාව මෙහෙය වූ ආකාරය දැක තමාගේම සිතට වහල් වී සිතේ කැමැත්තට ඉඩ දී ඉන්ද්‍රියයන් පිනවීමේ එකම අභිලාෂයෙන් මෙතෙක් කල් තමා නොමඟ ගිය බව දැක ඊට හේතු කාරක වූ කරුණු කාරණාවන්ද තමා තුළින්ම දැක ඒ අවිද්‍යා සංඛාර ප්‍රහාණය කිරීමට, විපස්සනා භාවනාවම භාවිතා කළ යුතුය. තමා සංසාරයට බැඳුණේ සැප සොයමින්, සැප ලුහු බැඳ මේ සංසාර රිය ගමන් ගියේ දුක යනු කුමක්දැයි තේරුම් නොගත් නිසාම බව දැන් ප්‍රත්‍යක්ෂ ලෙසින්ම අවබෝධ වෙයි. විඥ්ඥාණයේ නියම ස්වරූපය දැන හඳුනාගෙන, විඥ්ඥාණයේ කිළිටි වූ කැමැත්තට ඉඩ නොදී, අයාලේ නොගොස්, මනස මෙහෙයවා කරන, කියන, හිතන සියලු කටයුතු කරන්නට පුරුදු වීමෙන්, මෙතෙක් කුණු ගබඩාකර, කුණුම ආහාරයට ගෙන ජීවත් වූ විඥ්ඥාණයෙන්ද පූර්ණ වශයෙන්ද මිදී නිදහස් වීම ප්‍රඥා විමුක්තියට පත්වීමයි. "කරණීයමත්ථ කුසලේන" යනුවෙන් කුණු සළාහැරීමට ක්‍රමානුකූලව අනුගමනය කළයුතු මඟ බුදුපියාණන්ම "කරණීයමත්ථ සූත්‍රයෙන්" දේශණා කර පෙන්වා දී ඇත.

සතියෙහි පිහිටා, හේතුඵල පරම්පරාව ක්‍රියාත්මක වන සත්‍යයම වූ ස්වරූපය දැකගත නොහැකි නම් රාග, ද්වේෂ, මෝහ සළාහැර චිත්ත පාරිශුද්ධියට පත්විය නොහැකිය. ජීවත්වීමේ ඇති නැති වීමේ යථා ස්වරූපය තේරුම්ගන්නට උපකාර නොවන කිසිම කසින භාවනාවක් හෝ අනරිය භාවනාවක් හෝ විපස්සනා භාවනාවක් නම්

නොවේ. බොහෝ අනරිය භාවනා ක්‍රමද කසින භාවනා ක්‍රමද ධ්‍යානයක් ලබාදීමට නම් සමත්ය. ඒ අනරිය ධ්‍යානයෝ නිවන් අවබෝධ කර ගැනීමට නම් කිසිසේත් උපකාර නොවේ.

බුද්ධ භාෂිතයෙහි පෙන්වා අනුදැන වදාළ සියලුම "සති" භාවනා ක්‍රම, දස්සනේන සම්පන්න වූ පසුව පූර්වභාග නුවණ පහළ වූ පසුව පමණක් භාවිතා කළ හැකි කර්මස්ථානයෝය. ධර්මය අසා, ධර්මය ශ්‍රවණය කර ලබාගත් ධර්මාවබෝධයෙන් යුතුවම භාවනා කළ යුතුය. යථාවබෝධය ලැබූ තරමට සත්‍යය තේරුම් ගත් තරමට හේතුඵල දහමට බහා ගළපා බලන්නට පුරුදු වූ තරමට විපස්සනා භාවනාව ද ප්‍රතිඵල දායක වෙයි. මුලින්ම ධර්මය අසා දැනගත් නිවන, නිදහස්වීම තමාට අත්දැක, අත්විඳ ගන්නට විපස්සනා භාවනාව මිස වෙනත් ක්‍රමයක් ද නැත.

යම්කිසි ආකාරයක ලෞකික සුවයක් හෝ වින්දනයක් බලාපොරොත්තුවෙන් යම්කිසි බලයක්, පංච අභිඥා හෝ ඍද්ධි ප්‍රාතිහාර්යය පෑමේ බලාපොරොත්තුවෙන් හිත කය නැතිකර ගැනීමේ හෝ යම් එළියක්, ආලෝකයක්, බුදුරැස්, බුදුරුව දැක ගැනීමේ අදහස් හෝ වෙනත් යම්කිසි තත්ත්වයකට පත්වීමේ ලෞකික බලාපොරොත්තුවකින් හෝ කරන භාවනාවක් විපස්සනා භාවනාවක් නොවේ. මේ සියලු ආකාරවූ ලෞකික සුවයන්ගෙන්, වින්දනයන්ගෙන් නිදහස් වීමට, සියලු ලෞකික සම්බන්ධතා වලින් නිදහස්වන්නට කරන භාවනා විපස්සනා භාවනාවෝය. ලෝකය පිළිබඳව ලෞකිකත්වය පිළිබඳව සුළු වශයෙන් හෝ සිතෙහි යම් අරමුණක් මතුවන්නේ නම් එයද විඤ්ඤාණයෙන්ම බිහිකරගත් කාම විතක්කයක් බව ද තේරුම් ගත යුතුය.

බෞද්ධයෙකු ලෙස නිවන් අවබෝධ කර ගැනීමේ ඒකායන අරමුණෙන් කටයුතු කරන්නේ නම් විපස්සනා භාවනාවක් කළ යුත්තේ මේ කය නැති කර ගැනීමට නාම රූප නැතිකර ගැනීමට හෝ කායික මානසික වින්දනයක් සුවයක් පතාද නොවේ. කය නැතිකර ගන්නට කය නොපෙනී යන්නට අරූපී ධ්‍යානයක් ලබන්නට දරණ මෙවැනි උත්සාහයක්ද නිවනට උපකාර වනවාට වඩා නිවනට බාධකයෝමය.

මේ ශරීර කුඩුව වත යනු ගත සිත එකතු කර සාදා සකස්කරගත් සංඛතයකි. විඤ්ඤාණයට ලගින්නට විඤ්ඤාණයම සාදාගත් තාවකාලික කුඩුවකි. මේ වත ඔබට කැමැති පරිදි එක මොහොතක් හෝ පවත්වන්නට, නවත්වන්නට හෝ නොහැකිය. මේ වත, තමන් කැමති පරිදි එකම විධියකට පවත්වන්නට හෝ වෙනස් වී විපරිණාමයට පත්වීම නවත්වන්නට හෝ දරණ සියලු උත්සාහයන් අවිද්‍යාවෙන්, මෝහයෙන්ම කරන දේවල්ම පමණි. ඒ නිසා විඤ්ඤාණය සාදාගත් මේ කුඩුව සුවපත් කරන්නට, ප්‍රිය මධුර දේ ලබා දී පිනවන්නට හෝ ධුතාංග, වත් රැක දුක් දෙවන්නට, දුක් විඳවන්නට හෝ කටයුතු කිරීම අන්තයක් අල්ලාගෙන කටයුතු කිරීමක්ම පමණි. මේ අන්ත දෙකම හෝ අන්ත දෙක අතර මැද ඇති මොනයම් තත්ත්වයක් හෝ අල්ලා ගැනීම සංසාර රිය ගමන දිගටම ගෙන යාමට හේතුවක් වෙනවා මිස රිය ගමන නවත්වා අරිය වීමට නම් උපකාර නොවේ.

බුදුපියාණන් දේශණා කර වදාළ විපස්සනා භාවනාවක නියත ලක්ෂණයන් වන්නේ

සිතක මතුවන අවිද්‍යා සංඛාර සහිත අරමුණු ලෝභ - අලෝභ, ද්වේෂ - අද්වේෂ, මෝහ - අමෝහ අරමුණු දිගේ සිතින් රෝද ගැසීම නවතා නිරෝධ කිරීමයි. සිත නිරෝධ කිරීමත් සමඟම රාග - විරාග වෙයි. රිය ගමන නැවතී අරිය තත්ත්වයට පත්වෙයි. සිතට අරමුණු වන සියලු අවිද්‍යා සංඛාර අතහැර, ඒවාට නොබැඳී, ඒවායින් මිදී, ඒවාට යළි නොඇලී නිදහස් වීම නිවනයි. "චාගෝ පටිනිසග්ගෝ මුත්ති අනාලයෝ අසේස විරාග නිරෝධා" යනුවෙන් බුද්ධ දේශණාවේ පෙන්වා වදාළේ මෙම දුක්ඛ නිරෝධ අරිය සත්‍යයයි. භාවනාවක් කළ යුතු වන්නේ සිත දියුණුකර ගැනීමට යැයි බොහෝ දෙනෙකු තුළ වැරදි මතයක් ඇත. සිත යනුවෙන් අදහස් කරන්නේ ප්‍රකාශ කරන්නේ කිළිටි වූ විඤ්ඤාණයම මිස වෙන කිසිවක් නොවේ. මෙසේ තමන්ම එකතු කරගත් කුණු කන්දරාවක් නිසා කිළිටි වූ සිත පිරිසිදු කර ගන්නවා මිස මෙය දියුණු කරගත හැකි එකක් නොවේ. දියුණු කර ගැනීම සංවර්ධනය කර ගැනීම යනු තව තවත් "සං" එකතු කර ගැනීමක් ම පමණි. ඒ නිසා භාවනා කළ යුත්තේ රාග ගති, ලෝභ ගති, ද්වේෂ ගති, මෝහ ගති සිත තුළින් සළාහැර, ශුද්ධ පවිත්‍ර කර ගැනීමටයි. විඤ්ඤාණ තත්ත්වයෙන් පවතින සිත සම්පූර්ණයෙන්ම කර්මබීජ වලින් තොර, චිත්තජ ශක්තීන් ගෙන් තොර තත්ත්වයට පත්කර ගැනීමට නම් පළමුව ලෝභ, ද්වේෂ, මෝහ සළාහැර, දෙවනුව අලෝභ, අද්වේෂ, අමෝහ ද සළාහැර පූර්ණ වශයෙන් "සං" වලින් තොරවූ සම්මා තත්ත්වයට පත්කර ගත යුතුය. ලෝභ - අලෝභ, ද්වේෂ - අද්වේෂ, මෝහ - අමෝහ යන අන්තයන් දෙක අතර මැද ඇති මොනයම් තත්ත්වයක් හෝ අල්ලා ගත්තත් එය සංසාරයට සම්බන්ධ වීමකි. භව තත්ත්වයක් උපදවා දීමට හේතුවන බැඳීමකි. ඒ අනුව සියලු කෙළෙස් නසා, කුණු සළාහැර, චිත්ත පාරිශුද්ධිතාවට පත්විය හැකි වන්නේ අන්ත දෙකෙන් මෙන්ම අන්ත දෙක අතර මැදින් ද සම්පූර්ණයෙන්ම මිදී නිදහස් වීමෙනි. "මා මඤ්ඤති" යනුවෙන් බුදුපියාණන් පෙන්වා වදාළේ මැදින් මිදී නිදහස් වීමයි. මානය, මමත්වය බිහිවන්නේ මැදින් අල්ලා ගැනීමෙනි.

පෘථග්ජන පුද්ගලයා යනු කාමච්ඡන්ද, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්ච, කුක්කුච්ච, විචිකිච්චා යන පංචකාම නීවරණ ධර්මයන්ගෙන්ම චිත්තය ආවරණය කර, වසාගෙන සිටින පුද්ගලයායි. සිත ආවරණය කර ගන්නේ අඳුරු කරගන්නේ තමාමය. තම කැමැත්තෙන්මය. චිත්තය ආවරණය වීම යනු අඳුරු පටලයක්, ආසව තට්ටු කිහිපයක් නිසා කුණු කෙළෙස් කන්දරාවකින් චිත්තය වැසී මුවහ වී, ඇත්ත ඇති සැටියෙන් දැක, කෙළෙස් දැක ගන්නට නොහැකි ලෙසින් සත්‍යය වසං වීමයි. මෙයම දෘෂ්ඨිගත වීමක් ලෙසද පෙන්වා දිය හැකිය. පාට කණ්නාඩි කිහිපයක් පැළඳ සිටින කෙනෙකුට යමක් දෙස බලා එහි නියම ස්වරූපය දැක ගත නොහැකිවාක් වැනි දෙයකි. මේ දෘෂ්ඨිගත වීමයි.

ශ්‍රද්ධාව, වීර්යය, අධිෂ්ඨානය, උත්සාහය, බුද්ධිය, ප්‍රීතිය, සුඛය, උපේක්ඛාව, සතියෙහි පිහිටීම ආදී ගුණාංග මිනිසෙකුට අවශ්‍ය වන්නේ අවසාන අරමුණ වූ නිවන් අවබෝධකර ගැනීම සඳහා පමණි. මෙකී ගුණාංග කිසිවක් හෝ නිවන නොවේ. ගිනිගොඩ නිවා දමන්නට රිය ගමනෙන් නිදහස් වී, සංසාර ගමන නිමා කරන්නට උපකාර කරගත යුතු, භාවිතා කළ යුතු මෙවලම් සමූහයක් පමණි. ඒ නිසා මෙවැනි යමක් අල්ලා ගත්තත්, උපාදානය කරගත්තත් එයද නිවනට බාධකය.

සංවරත්වයේ සීලයේ පිහිටා සංසිඳුවීමෙන් සමාධියට පත්වී සම්මා අංග සම්පූර්ණ

කරගැනීමෙන් පූර්ණ ලෙස "පහාතබ්බා" යන තත්ත්වයට පත්වීමකි. මේ නිසා සංවර, සංසිඳුවීම, සම්මා යන බුද්ධ භාෂිතයේ එන පදවල අර්ථය නිවැරදිව තේරුම් නොගෙන, කළයුතු දේ නිවැරදිව අනුගමනය නොකර නිවන් අවබෝධ කරගත නොහැකිය.

"සං" යනු එකතු කිරීමයි. වටිනවා යැයි, සාරවත් යැයි සිතා එකතු කරගත් දේ "සංසාර" ගමනට එකම හේතුවයි. මේ එකතු කරගත් දේ කර්මජ බීජ නමින් හැඳින්වේ. බොහෝ උත්සාහයෙන්, මහන්සියෙන්, දුක්විඳ, හරිහම්බකර, ආදරයෙන් රැස්කරගත් මේ කර්මජ බීජ පැළවීමේ ශක්තියෙන් ද යුක්තය. මතු උපතටද නියත වශයෙන් ම හේතුකාරකය. මෙය හරියට ගොවියෙකු උත්සාහයෙන්, මහන්සියෙන් වපුරා, හදා, වේලා, සකස් කරගත් බිත්තර වී අටුවේ තැන්පත් කළා වැනි ක්‍රියාවකි. මතු උපතකට එකම හේතුව, මේ කර්මජ බීජ නිපදවීමත්, ඒවා ගබඩා කර රැස්කිරීමත්ය. "තේ ඛීණ බීජා අවිරුල්හි චංදෝ" යැයි බුදුපියාණන්ම පෙන්වා වදාළේ ද මේ "සං" නැමති එකතු කරගත් බීජ, සීලයෙන්, සමාධියෙන්, ප්‍රඥාවෙන් ප්‍රහාණය කල යුතු බවයි.

මේ අනුව නිවන් අවබෝධ කරගන්නවා යනු,

01. වර්තමානයේ මොහොතක් මොහොතක් පාසා එකතු කර ගන්නා, ලෝභ අලෝභ, ද්වේෂ - අද්වේෂ, මෝහ - අමෝහ ගති ලක්ෂණයන් එකතු කිරීමෙන් වැළකී ඉන්ද්‍රියයන් හයම සංවර කර ගැනීමත්,

02. අතීතයේ තමන් එකතු කරගත්, ගබඩා කරගත් මෙම ගති ලක්ෂණ නිසා බිහිවූ කාමාසව, භවාසව හා අවිද්‍යාසව සංසිඳුවා, සළාහැරීමත්,

03. ඒ ආසව සියල්ල සහමුළින්ම ඉවත් කිරීමට සම්මා අංග අටම සම්පූර්ණ කර ගෙන, පූර්ණ චිත්තපාරිශුද්ධියට, සම්මා සමාධියට පත්වීමත් යන පියවරයන් තුනම සම්පූර්ණ කර ගැනීමයි.

මේ අනුව ඉතාම සරළ ලෙස පැහැදිළි කර ගත යුතු වන්නේ තමාම කවදා හෝ සංසාරයේ දී වටිනවා යැයි, සාරයයි, එකතු කරගත් ගතිගුණවලින් තමාම මිදී නිදහස් වෙනු මිස වෙනත් කිසිම තේරුම් ගත නොහැකි ආශ්චර්යයක් හෝ ප්‍රාතිහාර්යයක් හෝ මෙම නිවන් දැකීම යන්නෙහි අර්ථය නොවන බවය.

ධ්‍යානයන් ලබා හෝ ධ්‍යානයන් නොලබාම හෝ අරහත් බුද්ධ තත්ත්වයට පත්වන්නට පින් ඇති, ශක්තිය ඇති වාසනාවන්ත මිනිස්සු අද කාලයේ ද උපත ලබා, අප අතරම ජීවත් වෙති. නිවැරදි අනුපුබ්බංගම නිවන් මග පැහැදිළි කර, විග්‍රහ කර කියා දෙන්නේ එවැනි මිනිසුන්ට තේරුම්ගෙන අනුගමනය කර නිවන අත්විඳ ගැනීම සඳහාමය.

සතර සතිපට්ඨාන භාවනා ක්‍රමය බුදුපියාණන් අනුදැන වදාළ පහසුම හා සරළම නිවැරදි අරිය භාවනා ක්‍රමයයි. "සති" යන පදය මෙහි ඇති වැදගත්ම පදයයි. සතියෙහි පිහිටා කටයුතු කිරීමෙන්ම සිත ගත දෙකම ශික්ෂණය කර, හික්මවා, සංවර කර, චිත්තසංඨානයේ ගබඩා වී පවතින කර්මජ බීජද සංසිඳුවා, සම්මා අංග යන සියල්ලද

සම්පූර්ණ කර ගත හැක.

බුද්ධ භාෂිතයේ ගෙනහැර දක්වා වදාළ "සති" සූත්‍ර දේශණා සියල්ලම ඍජුවම නිවන් මඟ පෙන්වන කර්මස්ථාන ලෙසින් සෑම මිනිසෙකුටම භාවිතා කළ හැකි දේශණාවන්ය.

1. සතර සතිපට්ඨාන සූත්‍රය
2. ආනාපානසති සූත්‍රය
3. බුද්ධානුස්සති සූත්‍රය
4. ධම්මානුස්සති සූත්‍රය
5. සංඝානුස්සති සූත්‍රය
6. මරණානුස්සති සූත්‍රය
7. අසුභානුස්සති සූත්‍රය
8. කායාගතාසති දේශණාව
9. චාගානුස්සති දේශණාව
10. මෙත්තානුස්සති දේශණාව

යන "සති" දේශණා දහයම බුද්ධ භාෂිතයයි.

මේ කොයියම් "සති" භාවනාවක් භාවිතා කළත් අවසානයේ සතර සතිපට්ඨානය සම්පූර්ණ කර ගැනීමෙන්ම සිත කය සංවර වී, ඉන්ද්‍රියයන් හයම සංවර වී, ත්‍රිවිධ සුචරිතයද පූර්ණ වෙයි. පටිවිරතෝහෝති යනුවෙන් පෙන්වා වදාළ ශික්ෂණයට, සංවරත්වයට පත්විය හැකිවන්නේ සතියෙහි පිහිටීමෙන්ම පමණි.

හේතුඵල පරම්පරාවක් ඇති නැතිවීමේ ක්‍රියාවලිය, උපතට මරණයට මුල් වූ චිත්තජ ශක්තීන් නිපදවා තැන්පත් කිරීමේ ක්‍රියාවලිය නිවැරදිව දැක ගත්තේ නැතිනම් ඒ පිළිබඳව සත්‍යය තේරුම් නොගත්තේ නම් කිසිම මිනිසෙකුට සති භාවනාවද නිවන් දැකීමට උපකාර වන ලෙසින් විපස්සනා කළ නොහැකිය. ඒ නිසා බුදුපියාණන් අනුදැන වදාළ සියලුම සති භාවනා නිවැරදිව භාවිත කර නිසි ඵල ලබාගත හැකි වන්නේ "සං" දැක, ධම්මෝ සංදිට්ඨික වී, දස්සනේන සම්පන්නෝ තත්ත්වයට පත්වීමෙන්ම පමණි.

සති යන වචනයේ සම්මත ලෝක ව්‍යවහාර අර්ථය හොඳ සිහිය යන්නයි. එහි බුද්ධ භාෂිතයේ ධර්ම අර්ථය සත්‍යය දැක, ඒ අනුව ක්‍රියා කිරීම යන්නයි. ඇත්ත ඇති සැටියෙන් දැක, ඊට අනුරූපව සිහිය, ක්‍රියාව, කථාව පැවැත්වීම සතියයි.

පිරිසිදු බුද්ධ දේශණාවට අනුකූලවත්, යථාවබෝධයෙනුත් විපස්සනා භාවනාවක යෙදීම කළ හැකි වන්නේ සතියෙහි පිහිටා කටයුතු කිරීමට පුරුදු පුහුණු වීමෙන්ම පමණි. සතියෙහි පිහිටීමෙන්ම පමණක් මිනිසෙකු ශික්ෂණ වන බවත් සංවර වන බවත්, ඒ අනුවම ඉන්ද්‍රියයන් හයම සංවර වී, සතර ඉරියව්වේදීම කරන, කියන, සිතන සියලු ආකාර වූ, ඇවතුම්, පැවතුම් ක්‍රියාකාරකම්, සිතුවිලි තමාගේ නිදහසට, නිවනට උපකාර වන ලෙස පැවැත්වීම සතියෙහි පිහිටීමයි.

තමා සිතන සිතුවිල්ලක්, කරන ක්‍රියාවක්, කථාවක් හේතුකොට ගෙන ඉන් බිහිවන ඵලවිපාක තමාටම උරුම වන ආකාරය දැක කටයුතු කරන්නට පුරුදු වීම සතර සතිපට්ඨානයේ පිහිටා කටයුතු කිරීමයි. ඒ සඳහා "ආදී නව" අවස්ථා දකින්නට සමත්විය යුතුය. විපස්සනා කිරීම යනු ද මෙයයි. මේ අනුව විපස්සනා භාවනාවකින් සිදුවන්නේ තමන් සිතන සිතුවිල්ලක්, කරන කථාවක්, කරන ක්‍රියාවක් කරන්නට, සිතන්නට පෙර හේතුඵල දහමට බහා ගළපා බලා එය තමාගේම නිවනට බාධක වේ නම් එය අත්හැර ප්‍රහාණය කර නිදහස් වීමත් එය වෙනත් කෙනෙකුගේ නිවනට බාධක වේ නම් නිවන ප්‍රමාද කරයි නම් එය වහාම අත්හැර, මිදී නිදහස් වීමට කටයුතු කිරීමත්ය. එම සිතුවිල්ල, තමාගේ හෝ වෙනත් කෙනෙකුගේ හෝ නිවනට උපකාර වන නිවනට මඟ පෙන්වන, නිවන් බාධක ඉවත් කරන ආකාරයක එකක් නම් ඒ සිතුවිල්ල, කථාව, ක්‍රියාව දිගටම භාවිතා කිරීමත්, සතර සතිපට්ඨානයෙන් කටයුතු කිරීමයි. මේ අනුව සෑම "සති" භාවනාවක්ම නිවනට උපකාරවන නිවැරදි ලෙසින් විපස්සනා කිරීමට හේතුඵල දහමට බහා ගළපා බලා කටයුතු කිරීමේ දැනුම, ශක්තිය, හැකියාව, පුරුද්ද ලබාගත යුතුමය. හේතුඵල නොදැන, හේතුඵල නොදැක, කටයුතු කිරීම "අමනසී කරෝති" යනුවෙන් බුදුපියාණන්ම සබ්බාසව සූත්‍රයේ දේශණා කර ඇත. තමන්ම යථාපරිදි තමා සිතන, කරන, කියන දේ පිළිබඳව තේරුම් ගැනීමත්, ඒ අනුව කටයුතු කිරීමත් "යෙ ධම්මා මණසිකරණිය" යනුවෙන් පෙන්වා වදාළහ.

විපස්සනා භාවනාවක යෙදීමෙන් ප්‍රායෝගිකව කළ යුතු වන්නේ නිවනට බාධක, නිවන් මඟ වසා අසුරා සිටින ලෝභ - අලෝභ, ද්වේෂ - අද්වේෂ, මෝහ - අමෝහ යන පංචකාමනීවරණ ධර්මවලින් ඉවත්වී ඒවා අතහැර චිත්ත පාරිශුද්ධතාවයට පත්වීමයි. ඒ සඳහා හේතුඵල දහම දැක ඒ අනුව කටයුතු කළ යුතු බව නැවත නැවතත් සිතිය යුතුය. හුස්ම ඉහළ පහළ දැමීම කෙරෙහිම පමණක් සිත යොමු කර අනෙකුත් සිතුවිලි සියල්ලම අමතක කර කාලය ගත කිරීම හෝ අවිද්‍යාමූල සංඛාර හා කුසල අරමුණු වෙන්කොට දැන හඳුනා නොගෙන අසිහියෙන් කටයුතු කිරීම හෝ විපස්සනාවක් නොවන බව පැහැදිළිවම තේරුම් ගත යුතුය. එයද භාවනාවකි. එය අනරිය වූත් ලෞකික වූත් වායෝ කසින භාවනාවයි. එයින් ද ධ්‍යානයන් ලබා ගත හැකිය. ඒවා අනරිය ධ්‍යානයෝය.

අත්හැර මිදී නිදහස් විය යුතු දේත්, ආශ්‍රය කර, භාවිතා කළයුතු දේත් යැයි ආනාපානසති විග්‍රහයේදී බුදුපියාණන් සියලු සංඛාර කොටස් දෙකකට බෙදා පෙන්වා වදාළහ. "සතෝව අස්සසති" "සතෝව පස්සසති" යනු මේ දෙකොටසමයි. අස්ස යනු ආශ්‍රය කිරීමයි. පස්ස යනු ප්‍රහාණය කර, පහකර දැමීමයි. මේ අස්ස යන වචනයත්, පස්ස යන වචනයත් බුද්ධ භාෂිතයේ පෙන්වා දුන් ධර්මය තේරුම් ගන්නට අසමත් වූ අය පසු කාලයේ දී අස්සාස (ආශ්වාස) පස්සාස (ප්‍රශ්වාස) යන පද දෙක සමඟ පටළවා ගත්හ. ඒ අනුවම ආනාපාන "සති" නැමති උතුම් බුද්ධ භාවනාව ද වායෝ කසින භාවනාව නැමති අනරිය භාවනාව සමග එකතුකර අලුත් භාවනාවක් ද සකස් කරගත්හ. අද බොහෝ අය භාවිතා කරන්නේ මේ කසින භාවනාවයි.

ආනාපානසති භාවනාවෙන් මෙන්ම සතර සතිපට්ඨාන භාවනාවෙන්ද අනෙකුත් "සති" භාවනාවලින් ද බුදුපියාණන් පෙන්වා වදාළ කායානුපස්සනා, වේදනානුපස්සනා

චිත්තානුපස්සනා හා ධම්මානුපස්සනා යන සතර අංගයම තමා තුළින්ම විපස්සනා කර දැකගනු මිස බාහිර ලෝකයෙන් දැකගත නොහැකිය. කථාවෙන්, ක්‍රියාවෙන් කරන සියලු ක්‍රියාකාරකම්වලටද මුල් වන්නේ සිතයි. කිසිම කථාවක්, ක්‍රියාවක්, සිතුවිල්ලකින් තොරව කළ නොහැකිය. මේ නිසා චිත්ත සංඛාර, මනෝ සංඛාර යන පද තේරුම් කර ගත යුතුය. "සං" යනු එකතු කිරීමයි. කාර යනු ක්‍රියාකාරකමයි. යමක් එකතු කිරීම සඳහා කරන හැම ක්‍රියාකාරකමක්ම සංඛාරයකි. මෙසේ තමන් එකතු කර ගන්නා හැම දෙයක්ම තමාට උරුම වෙයි. මේ ලෞකිකත්වය තුළින් කිනම් ආකාරයක දෙයක් එකතු කර ගත්තත්, එය බරක් කුණු ගොඩක් බව නිවැරදිව දැක ඒ සියලු දෙයින් නිදහස් වීම ලෞකිකත්වයෙන් මිදීම හෙවත් ලෝකෝත්තර තත්ත්වයට පත්වීම බවද තේරුම් ගත යුතුය.

සිතකට අරමුණු වන සියලු සිතුවිලි අතහැර දමා අසංඥ තත්ත්වයට පත්වෙන ක්‍රියාදාමයක් කිසිවිටකත් බුදු දහමෙහි අනුමත කළේ නැත. කළයුතු දේත්, නොකළ යුතු දේත්, ආශ්‍රය කළයුතු දේත්, අත්හැර මිදී නිදහස් විය යුතු දේත් යනුවෙන් දෙකොටසක්, ද්වතාවක් බුදු දහමේ නිතරම පෙන්වා දී ඇත. එය පටිච්චසමුප්පාද ධර්මයෙන් මනාකොට විග්‍රහ කර දී ඇත.

එදා ජන්බුද්වීපයේ ආගම්වල හා දර්ශනවල ධ්‍යාන ලබා ගැනීමට, පංච අභිඥා ලබා ගැනීමට, සිත සමාධිගත කිරීමට උපකාරවන බොහෝ භාවනා ක්‍රම ප්‍රගුණ කළහ. බුදුපියාණන්වහන්සේ ද බුදුවන්නට පෙර මේ සියලු දේ අධ්‍යයනය කර, පර්යේෂණ කර, අත්විඳ ගත්සේක. මේ බොහෝ ආගම්වල භාවිතා කරනු ලබන භාවනා ක්‍රමවලින් ද කරන්නේ රාග, ද්වේෂ, මෝහ වැනි කෙළෙසුන් එකතු කිරීම නවතා දමා කෙළෙසුන් භාවිතා කිරීමද තාවකාලික නවතා දැමීමයි. එසේ කෙළෙසුන් භාවිතා කිරීම නවතා දැමූ පසු සිත සමාධිගත වෙයි. අරූපී ධ්‍යානයකට පත්වීමෙන් ලබන සුවය මේ ලෞකිකත්වය තුළදී ලබා ගත හැකි උපරිම සුවයයි. නමුත් මෝහයේ මුල්සිඳ, කෙළෙස් උපදින්නට හේතු කාරක වන ආසව ප්‍රහාණය කර, චිත්තපාරිශුද්ධියට පත්වන්නට ඒ ධ්‍යානයෝ ප්‍රමාණවත් නොවේ. මෙවන් රූපී, අරූපී අනරිය ධ්‍යානයන් උපදවාගෙන ප්‍රකෘති ලෞකික ජීවිතයෙන් තාවකාලිකව මිදී, වෙන්වී මේ ලෞකිකත්වය තුළම වෙනත් තලයක මානසික අනුභූතීන් ලැබීම සිදුවෙයි. එය මනසින් ලබාගත හැකි උපරිම සුවයකි. ඉන්ද්‍රියයන් සංතර්පනය කර ලෝකයා ලබන සංඥා වේදයිත සුවයකට වඩා ආශ්වාද කර, අති ප්‍රණීත සුඛ වින්දනයක් මෙහිදී ලැබෙයි. මේ ලෞකික සුවය බුදුපියාණන් පෙන්වා වදාළ "සංඥා වේදයිත නිරෝධ සුවය" නොවේ. භව නිරෝධය, ජාති නිරෝධය නිසාම ලැබිය හැකි සංඥා වේදයිත නිරෝධ සුවය නිවන් සුවයයි. එය නැවතත් කවදාවත් වෙනස් නොවන වෙනස් කරගත නොහැකි සුවයකි. ඒ නිසා සංසාර දුක සදහටම නිමාකර උතුම් නිවන් අවබෝධ කර ගන්නට උපකාර වන එකම ධ්‍යානය සංඥා වේදයිත නිරෝධ තත්ත්වයට පත්වීමයි. සීල, සමාධි, ප්‍රඥා යන අංග තුන පිළිබඳව නිවැරදිව තේරුම් ගෙන සංවරත්වයට පත්වී, සංසිඳුවාගෙන, සම්මා අංග සම්පූර්ණ කරගත හැකි වන්නේ සතර සතිපට්ඨාන භාවනාවෙහි යෙදීමෙනි. හේතුඵල දහම තේරුම් ගෙන ද්වතාව ද අවබෝධ කර ගැනීමෙන් පමණක් ත්‍රිලක්ඛණය ද වටහා ගත හැකි වෙයි. මේ පංචස්කන්ධය පිළිබඳව ඇති සැටියෙන් තේරුම් ගෙන චතු අරිය සත්‍යය අවබෝධ කරගන්නට නිවැරදි මඟ එයයි.

## ආසව හා ආසවක්ඛය කිරීමේ ඥාණය

පුද්ගලයෙකු, සත්ත්වයෙකු තමාගේම ඉන්ද්‍රියයන් හයම ආයතන ලෙස භාවිතා කරමින් එකතු කර ගන්නා ගති ලක්ෂණයන් රාග, ලෝභ - අලෝභ, ද්වේෂ - අද්වේෂ, මෝහ - අමෝහ යන මූලික ගති ලක්ෂණයන්ය. කෙළෙස් 1500ක් ඇතැයි සමහර පොත්වල සඳහන් වන්නේ මේ ගති ලක්ෂණයන්ය. ඔබ දන්නා පරිදි කලින් විග්‍රහ කර පෙන්වා දී ඇති පරිදි මේ කෙළෙස් 1500 ම එකම මූලයකින් සමුදය වූ "සං" නිසා උපත ලත් කිළිටි වූ කෙළෙස්මය. කුණු ගොඩක්මය. මේ කෙළෙස් 1500 ම එකම මූලයකින් උපත ලබා ඇති බව හොඳාකාරවම තේරුම් ගත් පසුව ඒ මූලය නිවැරදිව (සමුදය) සොයා දැනගත හොත් මේ කෙළෙස් 1500ම ඒ එකම මූලය නිරෝධ කිරීමෙන් ප්‍රහාණය කර අලුතෙන් කුණු එකතු කිරීමෙන්ද වැළකී සිටිය හැක. අතීතයේ එකතු කළ දේ භාවිතා කිරීමෙන්ද වැළකී සිටිය හැක. අතීතයේ එකතු කරගත් යළි යළිත් චිත්තසංථානයේ මතුවන කෙළෙස් 1500ම සංසිඳවා, සම්මා තත්ත්වයට පත්වීමද තමන්ටම සිදු කරගත හැකිය.

ඉන්ද්‍රියයන් හයම උපකාරයෙන් එකතුකර ගන්නා දැනුම ගොඩනැගී ඇත්තේ ලෝක නිරුක්ති, ලෝක සම්මත, ලෝක ප්‍රඥප්ති හා ලෝක ව්‍යවහාර මත්තේය. මෙතනදී අල්ලා ගන්නා, එකතුකර ගන්නා, දෙයක් හෝ තැනක් කෙනෙක් හෝ ධර්මතාවක් ඇතිවා වාගෙම අල්ලා ගන්නා කෙනෙක්ද සිටී. එනම් කර්තෘ කෙනෙක් හා කර්මයක් යන දෙකක්ම පවතී. නියත වශයෙන්ම සළකා බැලූ විට මේ ද්වතාව පවතින නිසා හැම කෙනෙක්ම හිතින් රෝද ගසයි. රිය ගමනක් යයි. දුටුව බව දකී. දුටුව කෙනෙක්, දෙයක් පවතී. එහෙම ද්වතාවක් දැක්කේ නැති නම් එකතු කර ගන්න හැකියාවක්ද නොපවතී.

ලෝභ, ද්වේෂ, මෝහ ලෙසින් අපි අපේම ඉන්ද්‍රියයන් හරහා මෙසේ එකතු කරගත් මේ ගතිගුණ, ගති ලක්ෂණ අපේම චිත්තසංථානයේ තැන්පත් වේ. මේවා ලෝභ, ද්වේෂ, මෝහ ලෙස එකතු කරගත්තත් චිත්තසංථානය, කර්මජ කෝෂය තුළදී මෝරා, පැසී, පාක වී, ආසව අරිෂ්ඨ බවට පත් වේ. ඒවා චිත්තසංථානයට ඇතුලු කරගත් ආකාරයට වඩා දහස් ගුණයෙන් බලවත් ස්වරූපයෙන් ඵල විපාක ලබා දෙයි. ඒ නිසාම ඒවා ආසව ලෙසද හඳුන්වයි. මේ ලෙසින් කෙළෙස් 1500කට බෙදා පෙන්වූයේ කාමාසව, භවාසව, අවිද්‍යාසව යන කොටස් තුනට අයත් ගති ලක්ෂණයම සමුදය ධර්මයන් ලෙසින් චිත්තසංථානයේ විවිධාකාරයෙන් මතුවී ක්‍රියාත්මක වීමයි.

යම් කෙනෙකුට මේ සමුදය ධර්මය පිළිබඳව තේරුම් ගෙන "කාමාසව" මතුවීමට, උපත ලැබීමට මුල් වූ කරුණු කාරණා සහමුළින්ම නැතිකර කටයුතු කළ හැකි නම් මේ කෙලෙස් 1500න් 1000ක්ම පමණ අත්හැර මිදී නිදහස් කර ගත හැකියි. කාමච්ඡන්දය දුරු කරන අනිච්ච, අනත්ථ බව පසක්කර ගන්නට හැකි දුකට මුල් වූ හේතුව සොයා දැන ගන්නට උපකාර වන කර්මස්ථාන භාවනා කිරීමෙන්ද "සම්මා" තත්ත්වයට පත්වීමෙන්ද

මෙය කරගත යුතු වේ.

එසේම භවාසව, අවිද්‍යාසව දෙකම ඇති වීමට හේතුව වන ලෝභ, ද්වේෂ යන ලක්ෂණ දෙක ගතිගුණ දෙක බව නිවැරදිවම තේරුම් ගෙන හැම සත්ත්වයෙකුටම භූතයෙකුටම, දෙවියෙකුටම සමමෙත පතුරවන පරම මෙත් වැඩීම පුරුදු පුහුණු කර ගතහොත් කෙළෙස් 1500 ඉතිරි කොටසද අත්හැර සිත නිදහස් කර ගැනීමටද හැකියාව ලැබේ.

මේ අනුව ආසව, ආසව ලෙසින් නිවැරදිව දැන ගැනීමත් ආසව සමුදය, උපත ලබන ආකාරය නිවැරදිව තේරුම් ගැනීමත් ආසව නිරෝධ කරන්නට කළ යුතු දේ පිළිබඳව නිවැරදිව තේරුම් ගැනීමත් ආසව සිතේ ක්‍රියාත්මක වීම අවසන් වනතුරු ආසව නිරෝධගාමී මාර්ගයේ යමින් ප්‍රතිපදාව සම්පූර්ණ කර ගැනීමත් ආසවක්ඛයා ඥාණය උපදවා ගැනීමයි.

මෙය ආසවක්ඛයා ඥාණය උපදවා ගෙන චතු අරිය සත්‍යයන් අවබෝධ කර ගැනීමයි. ආසවක්ඛයා ඥාණය නොලබා, ආසව ඛය කරන්නට නිවැරදිවම මඟ නොදැන, කිසිවෙකුටත් නිවන් අවබෝධ කරගනු නොහැකිය. අෂ්ට සමාපත්තියට පත්වී අටවැනි ධ්‍යානයට පත් වූවත් ආසවක්ඛයා ඥාණය පහළ නොවූයේ නම් මෝහයේ මුල් සිඳනැති නිසා අළුයට ගිනි පුපුරු මෙන් ආසව පවතී. කවදා හෝ යළි ගින්න ඇවිළෙන්න ආසවම හේතුවේ. අරිය පරියේෂණ සූත්‍රයේත්, තවත් සූත්‍ර ධර්මයන් ගණනාවකමත් පිරිසිදු ලෙසම පෙන්වා වදාළ පරිදි නිවන් අවබෝධකර ගැනීම යනු ආසවක්ඛයා ඥාණය ලැබ "ඛීණාසව" තත්ත්වයට පත්වීමයි. ලෝභක්ඛය කිරීම, ද්වේෂක්ඛය කිරීම, මෝහක්ඛය කිරීම නිවනයි යනුවෙන් දේශණා කළේද මේ අර්ථයෙන්මය.

ධ්‍යාන වැඩීමෙන් කරන්නේද ලෝභ, ද්වේෂ, මෝහ යන ආසව කොටසක් දවා හැරීමයි. ධ්‍යානයක් ලබා ගැනීමෙන් සිදුවන්නේ අලුතින් ආසව එකතු කිරීම නැවැත්වීමත්, තාවකාලිකව ආසව භාවිතයෙන් ඉවත්වීමත්ය. නමුත් අතීතයේ එකතු කර, ගබඩා කරගත් ආසව මුල් චිත්තසංථානයේ, කර්මජ කෝෂයේ ගබඩා වී තැන්පත් වී ඇති බව දකින්නට තරම් ශක්තියක් ධ්‍යානවලට නැත. එසේ අතීතයේ කවදා හෝ චිත්තසංථානයේ තැන්පත් කළ මතු භාවිතට ගැනීමට විඤ්ඤාණය විසින්ම ගබඩා කර ඇති ආසව කොටස් දැක ඒවා සහමුළින්ම ඛය කර, ප්‍රහාණය කර චිත්තසංථානය ආසවවලින් තොර තැනක් බවට පත්කර ගත හැකිවන්නේ ආසවක්ඛයා ඥාණය පහළ කර ඒ මගින් ආසව නිරෝධගාමී මාර්ග ප්‍රතිපදාව සම්පූර්ණ කර ගැනීමෙන්ම පමණි. එයම විපස්සනා නුවණ පහළ වීමද වේ.

"සං" යන පදයෙන් විග්‍රහ කර එකතු කිරීම මගින් පෙන්වා දුන්නේද ආසව එකතු කිරීමයි. මේ අනුව "තේසං පහීනා" යනුවෙන් පෙන්වා දුන් "සන්නිට්ඨති, සංනිසීදති, සම්මාධියති" යන පදවලින් විග්‍රහ කළේද ආසවක්ඛයා ඥාණය උපදවාගෙන සංවර වී, සංසිඳුවාගෙන, සම්මා සමාධියට පත්වීමටයි. ආසවක්ඛයා ඥාණය පහළ නොවී සම්මා සමාධියෙහි පිහිටා කටයුතු කළ නොහැකිය. "සංමා" යන පදයෙන් පෙන්වා දුන්නේ අතීතයේ එකතු කළ (සං) සියලු ආකාර වූ ආසව සහමුළින්ම අතහැර, ඒවායින් මිදී නිදහස්

වීමයි. (විතක්ක සංඨාන සූත්‍රය)

"සංසාරව සූත්‍රයේත්, සංසුධෝතක සූත්‍රයේත්" මේ ක්‍රියාපිළිවෙත් තවදුරටත් පැහැදිළි කර, විග්‍රහ කර පෙන්වා දී ඇත. සංසාරව සූත්‍රයෙන් පෙන්වා දෙන්නේ "සං" බිඳ දමා ආසව බය කරගන්නට බුදුපියාණන් පෙන්වා වදාළ මාර්ගයයි. සංයුධෝතක සූත්‍රයෙහි පෙන්වා වදාළේ එකතු කරගත් (සං), ආසව ප්‍රහාණය කර ශුද්ධ පවිත්‍ර කරගෙන කර්මජ කෝෂය, චිත්තසංඨානය ආසවවලින් තොර තැනක් ඛීණාසව තත්ත්වයට පත්කර ගැනිමට මඟ පෙන්වීමයි.

කුසල මූල පටිච්චසමුප්පාද ධර්මය නිවැරදිව තේරුම් ගත් කෙනෙකුට ඉතා පහසුවෙන්, ඉතාම සරළ ලෙසින් ආසව බය කර ඛීණාසව තත්ත්වයට පත්වීමේ ශක්තියද වාසනාවද ලැබේ. කුසල මූල පටිච්චසමුප්පාද ධර්මය බුදුපියාණන් පෙන්වා වදාළේ අතීතයේ මහා කල්ප ගණනක් පටන් චිත්තසංඨානයේ එකතුකර ("සං" බාර) ගබඩාකර ගෙන ඇති ආසව ප්‍රහාණය කර බය කර ගන්නට මඟ දකගන්නට උපකාර වන ලෙසින්මය. මේවා ලෝකෝත්තර කුණුය. සංසාරයේ කවදා හෝ තමාම එකතුකර, ගබඩා කරගත් කුණුය. මේ කුණු සළාහැර ලෝකෝත්තර කුසලය පුරා ගැනීමට වෙනත් කිසිම ක්‍රමයක් ද නැත. මේ නිසා ආසවක්ඛයා ඥාණය පහළ වීම යනු කුසල මූල පටිච්චසමුප්පාද ධර්මය නිවැරදිව තේරුම් ගෙන ඒ අනුව විපස්සනා කිරීම පුරුදු පුහුණු වීමයි.

ලෝකෝත්තර කුණු ලෙසින් පෙන්වා දුන් කාමාසව, භවාසව, අවිද්‍යාසව සංවර සීලයෙන් හෝ ධ්‍යානයන් ලබා සංසිඳවීමෙන් හෝ සහමුලින්ම ඉවත්කර ඛීණාසව තත්ත්වයට සිත පත්කර ගත නොහැකිය. මේ සඳහා ලෝකෝත්තර කුසලයම පුරාගත යුතුය. එනම් ලෝක තත්ත්වයෙන් එතෙර වීමට සළාහැර ඉවත්කළ යුතු කුණු සොය සොයා මතුකර, ප්‍රහාණය කර සිත පිරිසිදු කරගත යුතුය. සිතක කාම විතක්ක මතුවීමට හේතුව වන්නේ කාමාසව චිත්තසංඨානයේ ගැබ්වී පැවතීමයි. සිතක ද්වේෂ, වෛර බිහිවීමට හේතුව ව්‍යාපාද විතක්ක, විහිංසා විතක්ක මතුවීමයි. ඒ අවිද්‍යාසව හා භවාසව මුල්කරගෙනම සිතෙහි බිහිවන ගතිගුණයන්ය. කාම විතක්ක ප්‍රහාණය කර පළවා හැර යටපත් කිරීමෙන් හෝ ව්‍යාපාද විතක්ක, විහිංසා විතක්ක පළවා හැර යටපත් කිරීමෙන් හෝ ලෝකෝත්තර කුණු සළාහැරීමක් සිදු නොවේ. ඒ සඳහා කාමච්ඡන්දය දුරුකරන කුසලමූල සංඛාර භාවිතා කර කාමයේ ආදීනව හා ආනිසංස මනා ලෙස දකගෙන කාමච්ඡන්දයේ මුල් සිඳ දමන්නටම අනිච්ච, දුක්ඛ, අනත්ථ යන ත්‍රිලක්ඛණ භාවනා කිරීම හෝ ඡන්දරාගයෙන් වෙන්වීමට සුදුසු කුසලමූල කර්මස්ථානයක්ම භාවිතා කළ යුතුය.

වෛරයෙන්, ක්‍රෝධයෙන්, ව්‍යාපාදයෙන්, විහිංසාවෙන් සහමුලින්ම මිදී නිදහස් වන්නට නම් සමමෙත පතුරුවන මෙත්තා කර්මස්ථානයක් වඩා ලෝකෝත්තර කුණු සළාහැරීම කරගත යුතුය. කාමරාග හා ව්‍යාපාද, ද්වේෂය සහමුලින්ම ප්‍රහාණය කර දැමීමෙන් මෝහයෙන් ද මිදී නිදහස් විය හැකිය. මෝහයෙන් මිදී නිදහස් වීම යනුද කාමරාග, පටිඝ, ව්‍යාපාද යන ගති ලක්ෂණවලින් මිදී නිදහස් වීම නිසා චිත්ත පාරිශුද්ධියට පත්වීමයි. මානය නැමති ලක්ෂණයත් අවිද්‍යාවත් සිතක් තුළ පවතින්නේ ආසව ක්‍රියාත්මක වීම නිසාමය. ආසව බය කර දමා ඛීණාසව තත්ත්වයට පත්වූ චිත්තයකින් අස්මිමානය, රූපරාග, අරූප රාග, උද්ධච්ච කුක්කුච්ච අවිද්‍යා යන සංයෝජනවලින් බැඳී කටයුතු

කිරීමෙන්ද වැළකී නිදහස් වෙයි. මේ අනුව උද්ධම්භාගිය සංයෝජනවලින් සහමුළින්ම නිදහස් අරහත් තත්ත්වයට පත්වීමට උපකාර වන්නේ ආසව පිළිබඳ ඥාණයත් පහළ කරගෙන ආසව සමුදය තේරුම්ගෙන ආසව නිරෝධ කිරීමට ක්‍රමය දන ආසව නිරෝධගාමී මාර්ගය අනුගමනය කිරීමය. මේ ආකාරයෙන්ම ආසව අනිච්ච බව, දුක්ඛ බව, ආසව අනත්ථ බවද තේරුම් ගත යුතුයි. මේ ආසව පිළිබඳව වූ ත්‍රිලක්ඛණය, ඥාණයන් ලෙසින් මතුවීමයි. කැමති සේ පැවැත්විය හැකි නැවැත්විය හැකි කිසිම ආසව කොටසක් නැති බවත් එසේ කැමති සේ, ප්‍රිය මනාප සේ පැවැත්විය නොහැකි සියලු ආසව, චිත්තසංථානයේ පැවතීම දුක ඇතිවීමට මුල්ම හේතුව බව දක ගැනීමත් කැමති සේ පැවැත්විය නොහැකි දුකම උරුම කර දෙන ආසව, හේතුඵල ලෙසින් භාවිතා කරන තුරාවට තමාට අනාථ තත්ත්වයක් නියත ලෙසම උරුම වන බවත් යථාවබෝධයෙන් තේරුම් ගැනීම ආසව පිළිබඳ වූ ත්‍රිලක්ඛණය අවබෝධ වීමයි.

ආසවක්ඛයා ඥාණය පහළවීම යනු කොටස් හතකින් සම්පූර්ණ වූ ඥාණ හතක් පහළ වීමයි.

01. ආසව ලෙසින් දන ගැනීමේ ඥාණය
02. ආසව සමුදය (සං උපත) දන ගැනීමේ ඥාණය
03. ආසව නිරෝධ කිරීමේ ක්‍රියාවලිය පිළිබඳ ඥාණය
04. ආසව නිරෝධගාමී මාර්ග ප්‍රතිපදාව අවසානය තෙක් අනුගමනය කිරීමේ ඥාණය
05. ආසව අනිච්ච බව දක ගැනීමේ ඥාණය
06. ආසව දුක්ඛ බව දනගැනීමේ ඥාණය
07. ආසව අනත්ථ (අනාථ) බව දනගැනීමේ ඥාණය

මේ ඥාණ හත පහළ වීමත් සමගම චතු අරිය සත්‍යයද සම්පූර්ණයෙන් අවබෝධ වී දුක්ඛෙ ඥාණං, දුක්ඛ සමුදයේ ඥාණං, දුක්ඛ නිරෝධ ඥාණං, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ඥාණං යන චතු අරිය සත්‍යාවබෝධයද සම්පූර්ණ වෙයි.

ආසව ඛය කර ගැනීමේ ඥාණය පහළ කර ගන්නට පටිච්චසමුප්පාද ධර්මය පිළිබඳ යම් දනීමක්, තේරුමක් ඇති කර ගත යුතුය. ආසව චිත්තසංථානයේ පවතින තුරාවට සෑම පුද්ගලයෙකුම අවිද්‍යාවෙන් කටයුතු කරයි. අවිද්‍යා නාමරූප බිහිවීම, ඉන්ද්‍රියයන් අවිද්‍යා ක්‍රියාවලට සම්බන්ධ වීමට හේතුවයි. ඉන්ද්‍රියයන් ආයතන බවට පත්වන්නේ අවිද්‍යා සහගතව යමක් එකතු කරන නිසාමය. අවිද්‍යාවෙන් එකතු කරමින් රූප, ශබ්ද, ගන්ධ, රස, පහස හා සංකල්පනා විඤ්ඤාණයේ ස්පර්ෂ වීම නිසා අවිද්‍යා සහගත වේදනා ඉපදීමත් සමගම විඤ්ඤාණය තැනකට හාවීම සිදුවෙයි. අවිද්‍යාවෙන් තැනක යාවූ සිත එතැනම උපාදානය කරගෙන එතැන අල්ලා බදා ගනී. එයින් නොනැවතුණු සිත උපාදානය කරගත් අවිද්‍යා ගතිගුණයට භවට පත්වෙයි. මේ ජාති උපතයි.

මේ අනුව සළකා බලන විට ආසව චිත්තසංථානයේ පවතින තුරාවට නිරන්තරයෙන්ම, නිරුත්සාහයෙන්ම අවිද්‍යා සහගත කර්ම බීජ උපදවා කර්මජ කෝෂයේ සටහන් කර ගැනීම විඤ්ඤාණයේ ආහාර සොයා යන ගමන් මගට උපකාර වන හේතුඵල ක්‍රියාදාමයක්, හේතුඵල පරම්පරාවක් පැවැත්වීමයි. හේතුඵල පරම්පරාවක් සිතක් තුළ

ක්‍රියාත්මක වන ආකාරය නිවැරදි ලෙසම තේරුම් ගත් පුද්ගලයෙකුට ඊට මුල් වූ පළමුවන හේතුව ආසව බවත් තේරුම් ගත හැකි වේ. ආසව ඛය කරගැනීමේ ඛීණාසව තත්ත්වයට සිත පත්කර ගැනීමෙන්ම හේතුඵල පරම්පරාවෙන්ද නිදහස් වී, මතු උපතක් ලැබීමෙන්ද ගැළවීමට ක්‍රියාකළ යුතු නිවැරදි ආකාරය ද කෙනෙකුට පහසුවෙන්ම තේරුම් ගත හැකි වනු ඇත.

හේතුඵල පරම්පරාවක් ක්‍රියාත්මක වන්නේ භව චක්‍රයකට අනුව යැයි පටිච්ච සමුප්පාද විවරණයක් ඉදිරිපත් කරමින් බොහෝ පොත්පත්වල වැරදි ආකාරයෙන් එය විග්‍රහ කර ඇත. ඒ සියලු වැරදි විග්‍රහයන්ට මුල් වූයේ විශුද්ධි මාර්ගය පෙන්වා දුන් වැරදි මඟ ගුරු කොට ගෙන එයම අනුගමනය කර ඒ පොත් ලියූ නිසයි. හේතුඵල පරම්පරාවක් ක්‍රියාත්මක වන්නේ චක්‍රාකාරව රවුමට නොව ගඟක් ගලන්නාසේ ඉදිරියට යාමෙනි. කිසිසේත්ම එය චක්‍රාකාර නොවේ. අතීතයට ගිය හේතු ඵලයක් නැවත කිසිම දවසක ඒ ආකාරයෙන්ම ආපසු යළි යළිත් සිතක මතු නොවේ. යම් ආකාරයකින් හේතුඵල පරම්පරාවක් චක්‍රාකාරයෙන් ක්‍රියාත්මක වේ යැයි කෙනෙකු නිගමනය කළහොත් කවම කවදාකවත් හේතුඵල පරම්පරාවෙන් ඉවත් වී නිවන් අවබෝධ කර ගැනීමක්ද සිදුකරගත නොහැකිය. හේතුවක් හෝ හේතු රාශියක් නිසා ඵලයකුත්, ඵලයම හේතුව කොට නැවත ඵලයකුත් ආදී වශයෙන් හේතුඵල පරම්පරාවක් එක දිගටම සිතේ ක්‍රියාත්මක වෙයි. අතීතයට ගිය හේතුව හෝ ඵලය මතු කිසිම ආකාරයකින් ඒ අයුරින්ම ඒ සිත තුළ යළිත් මතු නොවේ.

ආසව සිත තුළ ගබඩා වී පැවතීම නිසා සිදුවන්නේ අලුත් අලුත් හේතුඵල පරම්පරාවක් නිරතුරුවම බිහිවීමයි. කෙනෙකු නිවැරදි ලෙසම තේරුම් ගත යුතු වන්නේ අතීත හේතුඵල පරම්පරාවක සම්බන්ධතාවයක් නොතිබුණේ නම් වර්තමානයක් හෝ අනාගතයක්ද ඇති වන්නට ඉඩ නැති බවයි. පටිච්චසමුප්පාද විග්‍රහයෙන් පෙන්වා වදාළ අංග එකොළහ අතරින් (ආසව, අවිද්‍යා, සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ඵස්ස, වේදනා, තණ්හා, උපාදාන, භව) මොනයම් අංගයක් හෝ පිළිබඳව නිවැරදි ලෙස තේරුම් ගෙන ඊට අදාළ ඥාණ හතම තේරුම් ගත්තේ නම් ඒ සමඟම ආසවක්ඛයා ඥාණයද, චතු අරිය සත්‍යයන්ද පහළ වන්නේමය.

උදාහරණයක් ලෙස වේදනාව ගත්තොත් වේදනාව පිළිබඳ

1. වේදනාව තතු පරිදි දැන ගැනීමේ ඥාණය
2. වේදනාව සමුදය පිළිබඳ ඥාණය
3. වේදනා නිරෝධ කිරීම පිළිබඳ ඥාණය
4. වේදනා නිරෝධගාමී පටිපදාව පිළිබඳ ඥාණය
5. වේදනා අනිච්ච බව දැකගත හැකි ඥාණය
6. වේදනා දුක්ඛ බව දැකගත හැකි ඥාණය
7. වේදනා අනත්ථ (අනාථ) බව දැකගත හැකි ඥාණය

යන වේදනා පිළිබඳව වූ මේ ඥාණ හත ලැබීම මගින් දුක්ඛෙ ඥාණං, දුක්ඛ සමුදයේ ඥාණං, දුක්ඛ නිරෝධ ඥාණං, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ඥාණං යන චතු අරිය සත්‍යයද ලබන්නේය. වේදනාව පිළිබඳ මේ සඳහන් කළ ඥාණ හත ලැබීමට හේතුව ආසවක්ඛයා ඥාණය පහළ වීමයි. වේදනාවට මුල්ම හේතුව ආසව සිතෙහි මතුවීම බව

නිවැරදිවම තේරුම් ගැනීමයි. හේතුඵල පරම්පරාවට බැඳී වේදනා විඳින්නට හේතුව විඤ්ඤාණය ආසව මතු කරමින් විඤ්ඤාණය ආහාර සොයාගැනීමට දරණ උත්සාහය බව නිවැරදිව දැක ගැනීමයි.

මේ ආකාරයෙන් පටිච්චසමුප්පාද විග්‍රහයේ පෙන්වූ අංග එකොළහට අදාළ ඥාණ 77ක්ම පහළ වන්නේ ආසවක්ඛයා ඥාණය පහළ වීමත් සමඟම බව තේරුම් ගත යුතුය. පටිච්චසමුප්පාද ධර්මය තේරුම් ගැනීමෙන් අවිද්‍යාමූල පටිච්චසමුප්පාද විග්‍රහයේ පෙන්වූ සංඛාර නිරෝධයෙනුත්, කුසලමූල පටිච්චසමුප්පාද විග්‍රහයේ පෙන්වූ පරිදි කුණුසළා හැරීමට කටයුතු කිරීමෙනුත් පමණක් සහමුළින්ම ආසව ඛය කර දමා නිදහස නිවන, විමුක්තිය ලබාගත හැකි බව දැන් පැහැදිළි ඇතැයි සිතමි.

බුදුපියාණන්වහන්සේ සබ්බාසව සූත්‍රය නමින් සූත්‍රයක් මූලපරියාය වග්ගයෙහි, මූලපරියාය සූත්‍රයට පසුව දෙවැනිව ඉදිරිපත් කළේ මෙම ආසව ප්‍රහාණය කිරීමම නිවන් මඟට උපකාරවන එකම ක්‍රියාවලිය බවද පෙන්වා දීමටයි. මූලපරියාය වග්ගයෙහි ඉදිරිපත් කළ සබ්බාසව සූත්‍රය සියලු ආසව ප්‍රහාණය කර පහාතබ්බා කරගත යුතු බව පෙන්වා දුන් පසුවත් සූත්‍ර පිටකයේ විවිධ තැන්වල තවත් සූත්‍ර ධර්ම 30 කට වැඩි ගණනකම සබ්බාසව සූත්‍රයේ පෙන්වා වදාළ කරුණුම විස්තර ලෙසින් විග්‍රහකර එකින් එක පැහැදිළි කර දුන්නේ ආසව ඛයකර ගැනීමේ ඥාණය, දැනුම, අවබෝධය නිවන් මඟට අත්‍යාවශ්‍ය දෙයක් බව දුටු නිසාමය.

සබ්බාසව සූත්‍රයට අමතරව මූලපරියාය වග්ගයේම සල්ලේඛ සූත්‍රය යැයි ඉතා වැදගත් සූත්‍ර දේශණාවක් ඉදිරිපත් කරමින් ආසව නැවතත් වෙනත් ආකාරයකින් බෙදා විග්‍රහ කළහ.

1. සල්ලේඛ පරියායෙන් ප්‍රහාණය කළ යුතු ආසව
2. චිත්තුපාද පරියායෙන් ප්‍රහාණය කළ යුතු ආසව
3. පරිකම්මත පරියායෙන් ප්‍රහාණය කළ යුතු ආසව
4. උපරිභාව පරියායෙන් ප්‍රහාණය කළ යුතු ආසව
5. පරිනිබ්බාණ පරියායෙන් ප්‍රහාණය කළ යුතු ආසව

යැයි කොටස් පහකට බෙදා, විග්‍රහ කර පෙන්වා වදාළහ. කෙළෙස් 1500ක් යැයි බෙදා වෙන්කර පොත්වල පසුකාලයෙහි ලියා දක්වූයේ මෙම සල්ලේඛ සූත්‍ර දේශණාවෙන් පෙන්වා වදාළ කෙළෙස් දස දහස් ගණනක් 1500කට ගොනු කිරීමෙනි. සල්ලේඛ සූත්‍ර දේශණාවෙන් කරන ලද ආසව විග්‍රහය මහසයුර මෙන් ගැඹුරු බවත්, පරක් තෙරක් නොපෙනෙන බවත් එහිම පෙන්වා වදාරා ඇත.

ධර්මය පිළිබඳව ගැඹුරින් තේරුම්ගත් කෙනෙකුට මජ්ඣිම නිකායේ මූලපරියාය වග්ගයෙහි එන සූත්‍ර ධර්ම දහයෙන්ම විවිධ පැතිකෝණවලින් දැකගත හැකි වන්නේ ආසව ඛය කර ගන්නට ඒ සූත්‍ර ධර්ම හැම එකකින්ම ඍජු ලෙසම මඟ පෙන්වා දී ඇති බවයි. ඉන් ඉදිරියට මුළු සූත්‍ර පිටකයෙහි ඉදිරිපත් කර ඇති සෑම සූත්‍ර ධර්මයක්ම විග්‍රහ කර, විස්තර කර

ඉදිරිපත් කර ඇත්තේ මූළිකව ගෙනහැර දැක්වූ මූළික කරුණු සාක්ෂාත් කරගන්නට උපකාර කරගත හැකි විවිධ ධර්ම කාරණාවෝමය.

සියලු ආකාර වූ ධර්ම කාරණාවෝ අසා, කියවා යම් කෙනෙකු තේරුම්ගත යුතු වන්නේ තමා ගැනම, තම පැවැත්මට මුල් වූ, හේතු වූ (සමුදය) කරුණු ගැනමය. තමාට දුක උරුම වූයේ තමා දුක්විඳින්නේ සංසාර ගමන දිගින් දිගටම පවත්වන්නට හේතුව කුමක්ද යන්න තේරුම් ගැනීමයි. විඤ්ඤාණය තම ආහාර සඳහා "ආසව" එකතු කිරීම, ආසව ගබඩා කිරීම, ආසව භාවිතා කිරීම, ආසව පරිභෝග කිරීම හැර වෙනත් හරයක්, වටිනාකමක්, අර්ථයක් ඇති කිසිවක් මේ ජීවත් වීමේ නැත. මේ නිවැරදි දර්ශනය දැකගත හොත් දස්සනේන සම්පන්න වුවහොත් පමණක්ම ආසව ප්‍රහාණය කර, ආසව සළාහැර, ඛීණාසව තත්ත්වයට සිත පිරිසිදු කරගතහොත් විඤ්ඤාණයට ආහාර හිඟවී, ආහාර නැතිවී විඤ්ඤාණය මියැදී යනු ඇත.

පුද්ගලයෙකුට ආහාර පාන නැතිව ජීවත් විය හැකි වන්නේ උපරිම දින හතකි. මේ ආකාරයෙන්ම විඤ්ඤාණයට ආහාර පාන දෙකම ලබාදීම සහමුළින්ම නවතා දමා දින හතක් විඤ්ඤාණය නිරාහාරව තබන්නට හැකි ශක්තිය, උත්සාහය ලැබුණොත් විඤ්ඤාණය මියැදී, යළි කවදා හෝ උපතක් ලබන්නට නොහැකි තත්ත්වයක් නැති වී අක්‍රීය වී යනු ඇත. විඤ්ඤාණය මියැදුණු පසු චිත්ත තත්ත්වයෙන් ක්‍රියාත්මක වන චිත්තය ලෝකය තනන්නට කටයුතු නොකරන නිසා නිවන, විමුක්තිය අත් කර ගන්නේය.

සියල්ලන්ටම ආසවක්ඛයා ඥාණයම පහළවේවා!

## ආසවක්ඛයා ඥාණය - නව ආකාර කෙළෙස් ප්‍රහාණය

නිවන් මාර්ගය සම්පූර්ණ කර ගැනීම සඳහා අනුගමනය කළ යුතු මාර්ගය බුදුපියාණන් වහන්සේ විවිධ තැන්වල විවිධ ආකාරයෙන් පෙන්වා වදාරා ඇත. සබ්බාසව සූත්‍රයෙන් මෙය ආසව පහාතබ්බා ලෙසත් අංගුත්තර නිකායේ මෙය ප්‍රහාණය කිරීමක් ලෙසත් පෙන්වා දී ඇත. ඉතාම සරළ ලෙසින් අංගුත්තර නිකායේ පෙන්වා දුන් මෙම ක්‍රියාමාර්ගය යථාපරිදි දැන, නිවැරදිව අනුගමනය කිරීමෙන් කෙටිකාලයක් තුළ නිවන් මඟ, අෂ්ටාංගික මාර්ගය සම්පූර්ණ කරගත හැකිවෙයි. මෙහිදී පියවර නවයක් ලෙසින් පෙන්වා වදාළ අතහැර මිදී නිදහස් වීමේ ප්‍රායෝගික ක්‍රියාමාර්ගය තුළින් අනිමිත්ත සමාධියටත්, අප්පණිහිත සමාධියටත්, සුඤ්ඤත සමාධියටත් පත් වීමෙන් සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට පත් වී ප්‍රඥා විමුක්තියටත්, අකුප්පා චේතෝ විමුක්තියත් ලබා නිවන පූර්ණ කරගත හැකිවෙයි.

ඒ ඒ සත්ත්වයා තුළ මුල් බැසගෙන ඇති රාගය, ද්වේෂය, මෝහය නිසාම මානයෙන් අවිද්‍යාවෙන් කටයුතු කරයි. මෙවන් රාග, ලෝභ, තණ්හා, ද්වේෂ, ක්‍රෝධ, වෛරී ගති ලක්ෂණයන් මෙන්ම මානය, අවිද්‍යාව, මෝහය හා දිට්ඨිගත වීම වැනි සියලුම ලක්ෂණයන් ඒ ඒ සත්ත්වයාම, පුද්ගලයාම සංසාරයේ කවදා හෝ තම තමන්ම එකතු

කරගත් ගති ලක්ෂණයන්මය. විඤ්ඤාණයට සංසාර ගමන දිගින් දිගටම නොකඩවා පවත්වා ගෙන යන්නට උපකාරීවන ශක්ති ප්‍රභවය, එසේත් නැතිනම් කර්ම බීජ සපයා දෙන්නේ මේ ගති ලක්ෂණයෝය. තම තමන් තුළම පවතින මෙවැනි ගති ලක්ෂණයන් එකින් එක දැන හැඳින මේ ගති ලක්ෂණයන් නිසාම ප්‍රිය බව, සුව බව, මධුර බව සිතෙහි උපත ලබන බව යථාපරිදි තේරුම් ගෙන සංසාර ගමන යාමට මුල් වූ සමුදයම මේ ගති ලක්ෂණ සහමුළින්ම තම සිත තුළින් ක්‍රමානුකූලව ඉවත් කර පිරිසිදු වන්නට ක්‍රියා කිරීම නිවන් අවබෝධ කර ගැනිමයි. බුදුපියාණන්වහන්සේ ඒ ඒ පුද්ගලයාගේ, සත්ත්වයාගේ චිත්ත පාරිශුද්ධතාවයට මඟ පෙන්වා දෙමින් මේ ලෙස අනුගමනය කළ යුතු ක්‍රියාමාර්ගය අවස්ථාවන් නවයක් ලෙසින් පෙන්වා වදාළහ.

| | | |
|---|---|---|
| 1. පරිඤ්ඤෙයිය | 2. පරික්ඛෙයිය | 3. ප්‍රහාණය |
| 4. බ්‍යාය | 5. ව්‍යාය | 6. විරාගය |
| 7. නිරෝධය | 8. චාගාය | 9. පටිනිස්සග්ගාය |

මේ අවස්ථා නවය පිළිබඳවම යථාපරිදි මුලින්ම තේරුම් ගත යුතුය.

01. පරිඤ්ඤෙයිය

පිරිසිඳ දැන ගැනීමයි. තමාගේම සිත මනා ලෙස හදාරා තම සිත තුළම පහළවන අරමුණු පිළිබඳව පූර්ණ අධීක්ෂණයක් කිරීමයි. රාග අරමුණු, ද්වේෂ අරමුණු, මෝහ අරමුණු නිසාම රාග ගතිය, ලෝභ ගතිය, තණ්හා වීමේ ගතිය, ප්‍රිය බව, මධුර බව සිතෙහි හටගනී. ද්වේෂ ගතිය, ක්‍රෝධ ගතිය, වෛර ගතිය, විරෝධ ගතිය, ප්‍රකෝප ගතිය, සිතෙහි හටගනී. මානය හා අවිද්‍යාව නිසාම මමත්වය, තම්මතාවය, මඤ්ඤතාවය, අස්මිමානය සිතෙහි හටගනී. මෙවන් ගතිගුණ තමාගේම සිත තුළ ඇති වන බව පිරිසිඳ දැනගත යුතුයි. තමන්ගේම ක්‍රියාව, කථාව, සිතුවිල්ල කරන්නේ, කියන්නේ, සිතන්නේ මෙවන් ගති ගුණ නිසාම කිළිටි වූ, කහට ගැන්වුණු කෙළෙස් සහිත වූ සිතක් නිසාම බවද නිවැරදිව තේරුම් ගත යුතුයි. කෙළෙස් සහිත අරමුණු, සිතුවිලි තමාගේ සිත අඳුරු කරන බවද මුවහා කරන බවද දැක තේරුම් ගත යුතුයි. මේ ගති ගුණ තමාගේ චිත්තසංථානය තුළට ඇතුලු වූයේ කෙසේද? මේවා සිත තුළට කිඳා බැස ස්ථිර ගතිගුණ ලෙස ස්ථාපිත වූයේ කෙසේද? කාගේ අවශ්‍යතාවයකට මේවා සිත තුළ පැළපදියම් කර ගත්තේද?

මෙවන් ගතිගුණ, ගති ලක්ෂණ තමා තුළම පවතින තාක්කල්ම කාමාසව, භවාසව, අවිද්‍යාව සිතෙහි පවතින බවත් ඒ ගති ලක්ෂණ කාම විතක්ක, ව්‍යාපාද විතක්ක, විහිංසා විතක්ක, පාපාවිතක්ක ලෙසින් තම සිතටම අරමුණු වන බවත් තේරුම් ගත යුතුය. තම සිත ගැනම මනාකොට අධ්‍යයනය කර සිතෙහි ගති ලක්ෂණයන්, හැසිරීම් රටාව, සිතෙහි අරමුණු මතුවන ආකාරය දෙස නිහඬව බලා සිටිය යුතුය. සිතෙහි මතුවන කාම විතක්ක, ව්‍යාපාද විතක්ක, විහිංසා විතක්ක, පාප විතක්ක තෝරා බේරා වෙන්කර ගන්නට සමත් විය යුතුය. ඒවා සිත අඳුරු කරන, කහට ගන්වන, කිළිටි කරන මෝහය හා මානය වැනි දේ උපදවන රාග, ද්වේෂ, මෝහ චිත්තජ රූපයන් බව දැක ඒ චිත්තජ ශක්තීන් නිරුත්සාහයෙන්ම උපදවන්නේ විඤ්ඤාණය බවද දැක මේ පිළිබඳව පූර්ණ විශ්ලේෂණයක් කර පිරිසිඳ දැන ගැනීම පරිඤ්ඤෙයිය යන තත්ත්වයයි.

02. පරික්ඛෙයිය

තමාගේ සිත තුළ අඳුරු කෙළෙස්, කහට ගති ලක්ෂණයන් ඇති බවත් සංසාර ගමනට, දුක් විඳීමට, උපතට හේතුව තමා තුළම ඇති මේ ගති ලක්ෂණ බවත් පිරිසිඳ දැන ඒ ගති ලක්ෂණයන් සහමුළින් ඉවත් කළ යුතු බව තීරණය කිරීම පරික්බෙයිය යනුයි. ආශාව පහකර, ලෝභය බය කර, ද්වේෂය බය කර, මෝහය බය කර සිත ප්‍රභාශ්වර තත්ත්වයට පත්කර ගත යුතු ක්‍රමය නිවැරදිව දැන ඒ සඳහා අනුගමනය කළ යුතු ප්‍රතිපත්ති පිළිබඳව යථාවබෝධය ලැබීම මෙයින් අදහස් කෙරේ. පරිඤ්ඤෙයිය, පරික්බෙයිය යන අවස්ථා දෙකම යථාවබෝධයෙන්ම තේරුම් ගත යුතු පියවරයන් දෙකක් මිස තවම ක්‍රියාත්මක වන්නට පටන්ගත් දෙයක් නොවේ. දැනගත යුතු දේ නිවැරදිවත්, සම්පූර්ණයෙනුත් දැන පරීක්ෂණය, නිරීක්ෂණය කර නිගමනයට බැසීම පමණි. මෙයින් පසුව විස්තර කරන පියවරයන්ගෙන් කළයුතු දේ කළ හැකි වන්නේ මේ නිවැරදි දැක්ම මත පමණි.

03. ප්‍රහාණය

ඉවත් කිරීම, මඟහැරීම, පළවා හැරීම වැනි දේ මෙහිදි කළ යුතුය. රාගයට, ලෝභයට, තණ්හාවට මුල්වන ගතිගුණයන් තම සිත තුළ මතු වීමත් සමඟම ඒවා ප්‍රහාණය කළ යුතුයි. අතහැර නිදහස්විය යුතුය. ඉවසීමෙන් යුතුව තම සිත දෙසම බලාසිට, විමසිල්ලෙන් හොඳ නරක, හේතුඵල සළකා බලා ඉවත් කළ යුතු, ප්‍රහාණය කළ යුතු දේ හා ආශ්‍රය කළයුතු, භාවිතා කළයුතු දේ වෙන්කොට දැන් හඳුනා කටයුතු කිරීම මෙහිදී ඉතාමත් වැදගත්ය.

හේතුඵල ධර්මයට බහා ගළපා බලා කටයුතු කරන්නට පුරුදු පුහුණු වන්නේ මේ අවස්ථාවේදීය. තමා යම් ක්‍රියාවක්, කථාවක්, සිතුවිල්ලක් කළොත් එහි ඵලය කාට කිනම් ලෙස බලපායිද එය තමාගේ නිවන් මඟට බාධාවන ක්‍රියාවක්, කථාවක්, සිතුවිල්ලක් ද එසේ නම් එය වහාම ප්‍රහාණය කර නිදහස් විය යුතුය.

04. බ්‍යාය

බ්‍යා යනු බය කර දැමීමයි. එක්වරම අතහැර මිදී නිදහස් විය නොහැකි බොහෝ දේ ක්‍රමයෙන් බය කර දමා ශුද්ධ පවිත්‍ර කර ගත යුතුය. තරහ, ද්වේෂය, වෛරය වැනි ගති ලක්ෂණයන් එක මොහොතකින් අතහැර දමා පූර්ණ ලෙසට නිදහස් විය නොහැකිය. මේ සඳහා ක්‍රම ක්‍රමයෙන් ඉවසීමෙන් ක්‍රියාකර මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා ගුණයන් දියුණු කර නරක ගති බය කර දැමිය යුතුය.

05. ව්‍යාය

ව්‍යාය යනු වැයකර, ගෙවා දමා නිදහස් වීමයි. අතීත සංසාරයේ තමා කෙනකුට යම් ආකාරයකින් ණය වී ඇත්නම් ඒ ණය ගෙවා දමා, භෞතික හෝ ද්‍රව්‍යමය වශයෙන්ම ණය ගෙවා දමා නිදහස් විය යුතුය. වත්කම්, දේපල ආදිය තම දූදරුවන්ට පවරා සහමුළින්ම අයිතිය අතහැර වැයකර දැමිය යුතුය. ඉන් නිදහස් විය හැකි වන්නේ ඉන් පසුව පමණි. ඒ පිළිබඳව සිතින්ද අයිතිය ඉවත්කර පාලනයෙන් ඉවත්වීම ව්‍යාය යන තේරුමයි.

06. විරාගය

විරාග යනු රාගයෙන් වෙන් වීමයි. රාග යනු ඡන්දරාගයමයි. කැමැත්තෙන්ම හිතට

වහල්වී කාම රාග, රූප රාග, අරූප රාගවලට තණ්හා ඇතිකර ගත්තොත් ඒ කාම රාග, රූප රාග, අරූප රාග උපාදානය කරගත් ඒවාට බැඳීම, සම්බන්ධවීම නිසා ඒ ගතියටද පත්වෙයි. මෙය කර්ම භවට පත්වීමයි. මේ නිසා රාගය විරාග කර ඡන්දරාගයෙන් කාමච්ඡන්දයෙන් වෙන් වී නිදහස් විය යුතුය. ජීවත්වන සත්ත්වයෙකුට හැම ප්‍රශ්නයකටම මුහුණ දෙන්නට වන්නේ හැම දුකක්ම විඳින්නට වන්නේ, අනාථ තත්ත්වයට පත්වන්නේ, කාමච්ඡන්දයෙන් මුළා වී ක්‍රියා කිරීමෙනි. ඒ නිසා රාගයෙන් වෙන් වී විරාග තත්ත්වයට පත්වීම මේ සියලු දුක්වලින් නිදහස් වීමට නොවරදින පහසුම මඟයි. විරාග තත්ත්වයට පත්කර ගත යුතු වන්නේ තමාගේම සිතයි.

07. නිරෝධාය

නිරෝධ කිරීම යනු තම සිතුවිලිම නිරෝධ කිරීමයි. රාගයෙන් ප්‍රිය බවෙන් සිත යම් දෙයකට, යම් කෙනෙකුට, යම් අවස්ථාවක බැඳුණු පසු ඒ ප්‍රණීත සිතුවිල්ල, ප්‍රිය මධුර සිතුවිල්ල දිගේ කල්පනා කර දහ අතේ සිතුවිලි පතුරුවා ඒ ප්‍රිය දෙය කෙරෙහි තණ්හාවෙන් එය උපාදානය කරගනී. මේ තැනක භාවීමට යමක් උපාදානය කර ගන්නට ඒ ගතියට, භවට පත් වන්නට හේතුවූයේ ඒ අරමුණ දිගේ සිතුවිලි පැවැත්වීමයි. මෙය සිතින් රෝද කිරීමයි. මේ සිතුවිලි ආරම්භක අවස්ථාවේම තේරුම් ගෙන එවන් ප්‍රිය මනාප අරමුණකට බැඳී, සිතින් රෝද කිරීම නවතා දමන්නේ නම් එය සිත නිරෝධ කිරීමයි. මේ නිසා නිරෝධ කිරීම යනු යමක් නැති කිරීම නොවන බව තේරුම් ගත යුතුය. යම් අරමුණක්, සංඥාවක් දිගේ සිතින් රෝද කිරීම නැවැත්වීම නිරෝධ කිරීමයි. මෙතැනදීද සිදුවන්නේ අතහැර මිදී නිදහස් වීමකි.

08. චාගාය

චාග යනු සහමුලින්ම අතහැර මිදී නිදහස් වීමයි. චාග යනු දානය, ත්‍යාගය, දීමනාව යන අර්ථයෙන්ද තේරුම් කළත් මෙහිදී ත්‍යාගය, දානය යන අර්ථයට වඩා බලවත් අත්හැරීමේ ක්‍රියාවක් සිදුවේ. යම් දෙයක් දානයක්, ත්‍යාගයක් ලෙසින් තවත් කෙනෙකුට දෙන්නේ යමක් බලාපොරොත්තුවෙනි. අඩුම වශයෙන් පින් රැස්කර ගැනීම සඳහාය. ඒ දීමනාව දානය සංසාර ගමන දිගින් දිගටම යහපත් ලෙසින් පවත්වා ගන්නට උපකාර වන පිනකි. චාග යනු සම්පූර්ණ අත්හැර මිදී නිදහස් වීමයි. පිනක් හෝ වෙනත් කුමන ආකාරයක හෝ ප්‍රතිලාභයක් බලාපොරොත්තු වේ නම් එතැන චාග යන අර්ථය සම්පූර්ණ නොවේ. යම් කෙනෙකු ගිහිගෙය අතහැර, දේපළ අත්හැර, පැවිදි බවට පත්වූවත් ඒ ඒ වත්කම් දේපළ තවමත් අල්ලාගෙන සිතින් හෝ උපාදානය කරගෙන සිටී නම් එතැන චාග යන තේරුම දෙන දානයක්, ත්‍යාගයක් සිදුවී නැත. ඒ නිසා චාග යනු මුළු සිතින්ම අතහැර මිදී නිදහස් වීමයි. නිවනට නිදහසට උපකාර වන්නේ තම සිතම නිදහස් කර ගැනීමයි.

9. පටිනිස්සග්ගෝ

හැම පෘථග්ජන පුද්ගලයෙකුම ගිහි හෝ පැවිදි හෝ වුවත් සංයෝජන දහයකින් බැඳී සංසාර ගමනට එකතු වී එය කැමැත්තෙන්ම යන ගමනක් බවට පත්කර ගෙන ඇත. මේ සංයෝජනය ලෙසින් බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළේ පටි දහයකි. පටි යනු සුවදායක,

ආරක්ෂා සහිත, සුරක්ෂිත බැඳීමකි. ඒ බැඳීම විඤ්ඤාණයේ සංසාර බැඳීමයි. පටිච්චලින් සංසාර ගමනට බැඳී සිටිනා තුරාවට විඤ්ඤාණයේ මතු උපතද සුරක්ෂිතය. සහතිකය. මේ සංසාර ගමනට සත්ත්වයා, පුද්ගලයා බැඳී පටිසංසග්ග වී සිටින ආකාරය තේරුම් ගෙන පටි ලෙහා, නිස්සග්ග තත්ත්වයට පත්වීම නිවන් අවබෝධයට අත්‍යාවශ්‍යයෙන්ම උපකාර වෙයි. "වොස්සග්ග පරිණාමී" යනුද පටිලෙහා, ගළවා සහමුළින්ම නිදහස් වීමයි.

මේ ආකාරයෙන් විග්‍රහ කර බලන විට නිවන් අවබෝධය යනු තම තමන්ම සංසාර ගමනට බැඳී සම්බන්ධ වී සිටින රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණයන් ශේෂයක්වත් ඉතිරි නොවන ලෙස අතහැර මිදී නිදහස් වීමයි. කෙස් ගහක් පමණවත් දෙයක් ප්‍රිය යැයි සුව යැයි, මධුර යැයි, වටිනවා යැයි, සාරවත් යැයි අල්ලාගෙන, උපාදානය කරගෙන සිටිනතාක් සංසාර ගමනට එයම උපකාර වෙයි. භෞතික, ලෞකික, සංඛතයන්ගෙන් මිදී නිදහස් විය හැකිවන්නේ සිතෙහි පහළවන සංකල්පනාවලින් සංඛාරවලින් මිදී නිදහස් වී, සංඥා නිසා උපදින සමුදය නිරෝධකර ගැනීමෙනි. "යං කිංචි සමුදය ධම්මං, සබ්බත්තං නිරෝධ ධම්මං" යනුවෙන් ප්‍රකාශ කළේ මෙයයි.

## ආසවක්ඛයා ඥාණය - රථ විනීත සූත්‍රය

රථ විනීත සූත්‍රයේ පෙන්වා වදාළ පරිදි නිවන් මාර්ගය සම්පූර්ණ කර ගන්නට නම් පියවර අටකින් සම්පූර්ණ වන විශුද්ධි මාර්ගයක් සම්පූර්ණ කර ගත යුතුය. මේ අට ආකාර වූ විශුද්ධි මාර්ගයම සම්පූර්ණ වන්නේ ආසව අනුසය සහමුළින්ම කපා ඉවත් කර දමා චිත්තසංථානය හා මනස ශුද්ධ පවිත්‍ර කර ගැනීමෙනි.

මේ අනුව බුද්ධ දේශණාවෙන් පෙන්වා වදාළ පිරිසිදු නිවන් මාර්ගය ඒකායන අර්ථයෙන් ම "අනුප්පාදේ ඥාණං" මුල් කොටගත් අනුප්පාදය අවසාන පරම අර්ථය කොටගත් අනුපූරක නිවන් මාර්ගයක්ම වේ.

මේ නිවන් මාර්ගය පැහැදිළිවම පිරිසිදුවම දැන ගැනීමත්, ඒ නිවෙන මාර්ගය යථාවබෝධයෙන්ම අනුගමනය කිරීමත් ඒ දැනගත් මග තමන් ම අත්විඳ ගැනීමත් නිවනයි.

මේ මාර්ගය සමස්තයක් වශයෙන් සමාලෝචනය කරනවා නම් එය බුද්ධ දේශණාවට අනුව මෙසේ ලියා දැක්විය හැකිය.

| | | | |
|---|---|---|---|
| 1. | සංවරට්ඨේන | - | සීල විශුද්ධි අභිඤ්ඤෙයියා |
| 2. | අවික්ඛේපට්ඨේන | - | චිත්ත විශුද්ධි අභිඤ්ඤෙයියා |
| 3. | දස්සනට්ඨේන | - | දිට්ඨි විශුද්ධි අභිඤ්ඤෙයියා |
| 4. | මුත්තට්ඨේන | - | විමොක්ඛා අභිඤ්ඤෙයියා |
| 5. | පටිවේධට්ඨේන | - | විජ්ජා අභිඤ්ඤෙයියා |
| 6. | පරිච්චාගට්ඨේන | - | විමුත්ති අභිඤ්ඤෙයියා |
| 7. | සමුච්ඡේදට්ඨේන | - | ඛයේ ඥාණං අභිඤ්ඤෙය්‍යං |
| 8. | පටිපස්සද්ධට්ඨේන | - | අනුප්පාදේ ඥාණං අභිඤ්ඤෙය්‍යං |

මේ එකින් එක පියවරම විග්‍රහ කර යථාපරිදි අවබෝධය පූර්ණ කරගෙන අභිඤ්ඤෙය්‍යං යන උසස්ම පරිපූර්ණ සත්‍යාවබෝධයක් ලැබීම නිවනයි. හැම මිනිසෙකුටම යෝනිසෝමනසිකාරයෙන් ධම්මානුධම්ම පටිපදාවෙහි යෙදීමෙන් මේ පියවර අටම සම්පූර්ණ කරගන්නට හැකියාවක් තිබේ.

1. සංවරට්ඨේන - සීල විශුද්ධි

සංවරවීම යන අර්ථයෙන්ම සීල විශුද්ධිය පරිපූර්ණ කරගත යුතුය යන අදහසයි. ඉන්ද්‍රියය සංවරය, ප්‍රත්‍ය සංවරය (සිවුපසය පරිභෝග කිරීම) ප්‍රාතිමෝක්ඛ සංවරය, (නිවන් මඟට උපකාර වන සේඛ සීලය) කෝටියක් සංවර සීලය යන දේ දැන සංවර වීමේ අර්ථයෙන් ම සීල විශුද්ධියට පත් විය යුතුයි. මෙතැන සීලය යනු සංවරත්වය පිළිබඳ ලැබූ යථාවබෝධයයි. මේ අනුව තමන්ම සංවර වන තම ඉන්ද්‍රියයන් සංවරත්වයට පත්වන සංසුන් වී, සංයමයට පත් වී, සම්මා දිට්ඨියෙහි පිහිටා ක්‍රියා කිරීමේ ශක්තියයි. හැකියාවයි. සංවරත්වයෙන් තොර සීලයක් බුද්ධ දේශණාවෙහි නැති බවයි.

2. අවික්ඛේපට්ඨේන - චිත්ත විශුද්ධි

සිතේ ඇති වන වික්ෂෝප ගතිය නැති කර ගැනීම යන අර්ථයෙන් අවික්ඛේප වශයෙන් සිත ඒකාග්ගතාවයට පත්කර ගැනීම චිත්ත විශුද්ධියයි. නිතරම පෘථග්ජන හිතක් රාගයට ඇලීම, ද්වේෂයට ගැටීම හා මුළාව නිසා ඒකාග්ගතාවයෙන් තොර වූ විසුරුණු විවිධ තත්ත්වයට පත්වන්නා වූ සිතක් ලෙසින් පවතී. වේදනා විඳගන්නට පුරුදු වූ සිතක් නිරන්තරයෙන් ම සුඛ, සුව, සැප වේදනා සොයා ප්‍රිය දේ මධුර දේ සොයා හඹා යයි. එවන් විසුරුණු සිතක කම්පනය නියත ගතියකි. සිත සමථ තත්ත්වයට සමාධි ගත කරගත හැකි වන්නේ අවික්ඛේප තත්ත්වයට පත් කර ගැනීමෙන්ම පමණි. උද්ධච්ච සිතක්, විචිකිච්චාවෙන් යුතු සිතක් නිරන්තරයෙන්ම වික්ඛේප වූ සිතකි. එවැනි සිතක සමථයක් හෝ සමාධියක් හෝ නැත. සංවර සීලයෙහි පිහිටි සිතක සමාධිය හා සමථය පිහිටයි. අවික්ඛේප සිතකින් ඇති කර ගන්නා සමාධිය අරිය සමාධියයි.

3. දස්සනට්ඨේන - දිට්ඨි විශුද්ධි

දස්සනට්ඨේන යනු සම්මා දිට්ඨියට පත්වීමයි. ධම්මෝ සංදිට්ඨිකෝ වීමයි. දස්සනේන සංපන්නෝ වීමයි. මිච්ඡා දිට්ඨියෙන් වෙන් වී, ලෞකික සම්මා දිට්ඨියෙනුත් ඔබ්බට ගොස්, ලෝකෝත්තර සම්මා දිට්ඨියෙහි ම පිහිටා ක්‍රියා කිරීමට ඇති හැකියාව දිට්ඨි විශුද්ධියයි. හොඳ, යහපත්, නිවැරදි දැකීම යන්නත් සම්මා දිට්ඨියකි. නමුත් එහි නිවනක් නැත. එහි ඇත්තේ ලෞකික, හොඳ, යහපත් නිවැරදි පැවැත්මකි. එවන් හොඳ යයි සම්මත ලෝකයක් පැවැත්වීමෙන් මිදී නිදහස් වීමම නිවනයි. දිට්ඨි විශුද්ධියට පත්වීම සෝතාපන්න මාර්ගයට හා සෝතාපන්න ඵලයට පත්වීමයි.

4. මුත්තට්ඨේන - විමොක්ඛා විශුද්ධි

මුච්චති යන අර්ථයෙන් මිදී නිදහස් වීම විමොක්ඛා ලෙසින් ද හඳුන්වයි. සතර ආකාර වූ රූපී ධ්‍යානයන් හතරත්, අරූපී ධ්‍යානයන් හතරත් ''සමය විමොක්ඛෝ''ලෙසින් ධර්මයේ හඳුන්වයි. ඒවා චේතෝ විමුක්තියයි.

සතර ආකාර වූ අරිය මාර්ග සෝවාන් මාර්ගය, සකෘදාගාමී මාර්ගය, අනාගාමී

මාර්ගය හා අරහත් මාර්ගයත් සතර ආකාර වූ සාමඤ්ඤ ඵල (මාර්ග ඵලයන්) මෙන්ම නිවනත් අසමය විමොක්ඛා ලෙසින් ද හඳුන්වයි. මෙය ප්‍රඥා විමුක්තියට පත් අකුප්පා චේතෝ විමුක්තියයි. මේ මුත්තවීම යනු අතහැර මිදී නිදහස් වීම, නොඇලීම, නොගැටීම, මුළා නොවීම ''අසේස විරාග නිරෝධෝ''යන සියලු පදවලින් විග්‍රහ කරන ලද අතහැරීමයි. සමය විමොක්ඛෝ යනුවෙන් විග්‍රහ කරන ලද්දේ ධ්‍යානයයි. රාග, ද්වේෂ දවා හැර, යටපත් කර දැමීමේ ප්‍රතිඵලයක් ලෙසින් තාවකාලිකව ලබන සුවය ධ්‍යාන සුවයයි. චේතෝ විමුක්ති සුවයයි. අසමය විමොක්ඛෝ යනු මෝහය ද ඇතුලුව රාග, ද්වේෂ, මෝහ ගති තුන යටපත් කිරීමෙන් නොව ඒවා මුළින්ම උපුටා දමා ගති ඉවත් කිරීමෙන් ලබන විද්‍යා විමුක්තියයි. අකුප්පා චේතෝ විමුක්තිය ලෝකෝත්තර විමුක්තියයි. අනාසව, නිරාමිස විමුක්තියයි. ඒවාගේම අනිමිත්ත, අප්පණිහිත, සුඤ්ඤත විමුක්තියයි.

5. පටිවේධට්ඨේන - විජ්ජා විශුද්ධි

විද්‍යා විමුක්තිය ලබා ගත හැකි වන්නේත්, සත්‍යය ප්‍රත්‍යක්ෂ කර දැකගත හැකි වන්නේත් පටිනිස්සග්ගානුපස්සනා කිරීමෙනුයි. "පටි" යනු බැඳීමයි. කාම උපාදානය යනු පටියකි. බැඳීමකි. දිට්ඨි උපාදානය පටියකි. බැඳීමකි. සීලබ්බත උපාදානය බැඳීමකි. පටියකි. අත්තවාදුපාදානය පටියකි, බැඳීමකි. පටි ලෙසින් මෙසේ දැක්වූ බැඳීම් හතරෙන්ම නිදහස් වීම පටිවේද අර්ථයෙන් විග්‍රහ කරන ලදී. මේ පටිවලින් මිදී නිදහස් වූ කෙනෙකුට සියලු ආකාර වූ බැඳීම්වලින්ද මිදී නිදහස් වීමේ ශක්තියක් හා හැකියාවක් ද ලැබේ.

මේ විද බැලීමේ ශක්තිය පරමාර්ථ ධර්මයන් දැකීමයි. යථාභූත ඥාණ දර්ශනය ම ලැබීමයි. යථාභූත ඥාණ දර්ශනයත් ලැබූ විජ්ජා විමුක්තියටත් පත් වූ පුද්ගලයා චතු අරිය සත්‍යයන් ප්‍රත්‍යක්ෂ කර අවබෝධ කර ගත් කෙනෙකි. අරිය උත්තමයෙකි.

6. පරිච්චාගට්ඨේන - විමුක්ති විශුද්ධි

චාගෝ, පරිච්චාගෝ යනු අත්හැරීම, ප්‍රහාණය කර බැහැර කිරීම යන අර්ථයෙන් මිදී නිදහස් වීමයි. "චාගෝ පටිනිස්සග්ගෝ මුත්ති අනාලයෝ" යනුවෙන් නිරෝධ අරිය සත්‍යයෙහි වදාරා, විග්‍රහ කළේ මේ අත්හැර මිදී නිදහස් වීම ගැනයි. විමුක්තිං යනු මුදනු කැමති බවයි. කැමැත්තෙන්ම සත්‍යාවබෝධයෙන් ම අත්හැරීමයි. ප්‍රත්‍යවේක්ෂා කිරීමෙන්, හේතුඵල දැකීමෙන්, අධ්‍යුපේක්ඛාවෙන් අත්හැරීමයි. පරිච්චාගෝ යන පදයේ අර්ථය කැමැත්තෙන් ම, පූර්ණ ලෙසින් ම අත්හැර මිදී නිදහස් වීමයි. මේ සඳහා සංඛාරුපෙක්ඛා ඥාණයම උපදවා ගත යුතුයි. නිමිත්ත මුදනු කැමති වීම, ආයුහන (කර්ම සකස් කිරීම) මුදනු කැමති බව, පටිසන්ධිය මුදනු කැමති බව, විපාක ප්‍රවෘත්තිය මුදනු කැමති බව පරිච්චාග අර්ථයෙන් විමුක්තියට පත්වීමයි. ඒ නිසා උපාදානය කරගත් පංච උපාදානස්කන්ධයෙන්ම කැමැත්තෙන්ම සංඛාර උපේක්ඛා ඥාණයෙන්ම උපාදානය කරගත් දේ අතහැර මිදී නිදහස් වීම මෙහිදී අදහස් කෙරෙයි.

7. සමුච්ඡේදනට්ඨේන - ඛයේ ඥාණං

සමුච්ඡේද යනු සහමුළින් ම යමක් ගළවා උදුරා ඉවත් කිරීමයි. මෙහි එන අර්ථය ද ආසව, අනුසය ධර්මයන් චිත්තසංථානයෙන් ශේෂයක්වත් ඉතිරි නොවන සේ සහමුළින්ම ගළවා ඉවත් කර දැමීම යන අර්ථයෙන් "ඛයේ ඥාණං" ඇති කර ගත යුතුය යන්නයි. එසේ

නම් "ඛය " යන පදයෙන් "ක්ෂය" කිරීම යන අර්ථයට වඩා "ගළවා උදුරා ඉවත් කර දැමීම" යන අර්ථයම ඉස්මතු වෙයි. "ඛණ සම්පත්තිය" යන්නෙහි "ඛණ" යනු "ඛය" යන පදයේම කාරක පදයයි "ඛණ, ඛය'' යන පදයන්හි අතීත කාල පදය "ඛීණා'' ''ඛීණා ජාති" "ඛීණං පුරාණං" යන පදවලින් පිළිබිඹු වෙයි. ත්‍රිලක්ඛණය, ඛණ සම්පත්තිය යන පදවලින් එන අර්ථයම මේ ඛයේ ඥාණයයි. එය ආසවක්ඛ්‍යා ඥාණයයි. අනුසයක්ඛ්‍යා ඥාණයයි. මේ "ඛයේ ඥාණං" යන පදය තේරුම් ගන්නට නොහැකි වීම හේතු කොට ගෙනම අද බෞද්ධයාට නිවන් මාර්ගය වැසී ඇහිරී පවතී.

8. පටිපස්සද්ධට්ඨේන - අනුප්පාදේ ඥාණං

මේ අරහත් ඵලය පිළිබඳවම කරන ලද ප්‍රකාශයකි. අරහතුන්වහන්සේ කිසිම සංඛාරයකට පටිච්ච නොවේ. සංඛාරයක් නොකර ක්‍රියා සිත් පමණක් පවත්වන අරහතුන් වහන්සේ ඉන්ද්‍රියයන් හයම භාවිතා කළත් පරිහරණය කළත් ඒවා ආයතන ලෙසින් පරිහරණය නොකරන නිසා පටිච්ච වීමෙන් වැළකී "පටිවිරතෝ" යන තත්ත්වයටම පත්ව සිටී. චක්ඛුං රූපයක් සමග පටිච්ච වීමෙන්, සංඛාරයක් කිරීමෙන්, සමුදය ශක්තියක් විඤ්ඤාණය විසින් උපදවා ගනී. දැන් චක්ඛු ඉන්ද්‍රියයක් ලෙසින් භාවිතා කරන විට "දිට්ඨේ දිට්ඨ වාදිතා" යන වේදනාවෙන් තොර වන නිසා සංපස්සජා වේදනා තත්ත්වයට පත් නොවන නිසා අනුප්පාදේ ඥාණයෙන් යුතු අරහතුන්වහන්සේ ඉන්ද්‍රියයන් හයමත් පරිහරණය කරයි. භාවිතා කරයි. ක්‍රියා සිත් පවත්වයි. නමුත් සංඛාර සිත් නොපවත්වයි. පංචස්කන්ධම පරිහරණය කරයි. පංචඋපාදානස්කන්ධයෙන්ම තොර වී, පටිපස්සදී තත්ත්වයට පත්ව සිටී. එවන් අරහතුන්වහන්සේ කිසිම ආකාරයක කර්ම බීජ සකස් කිරීමක් සිදු නොකරයි. ඒ නිසා පෘථග්ජන පුද්ගලයෙකු මෙන් අරමුණුවලට බැඳී පටිච්ච වී සංඛාර පවත්වමින් සමුදය බිහි කරමින් භව උප්පාද කිරීමක් උන්වහන්සේ සිදු නොකරයි. ඒ නිසා "අනුප්පාදෝ නිබ්බානං" යන උතුම් නිවන් අවබෝධය පරිපූර්ණ කරගත් අරහතුන් වහන්සේ නිස්සරණ සුවයෙන් කාලය ගෙවති.

බුද්ධ දේශණාවෙහි පෙන්වා වදාළ නිවන් මාර්ගයට උපකාර වන මේ සීල විශුද්ධි, දිට්ඨි විශුද්ධි ආදී අංග අටම සඳහා ත්‍රිපිටකයේ ධර්ම විග්‍රහයක් අර්ථ දීමක් කර ඇත. සංවර අර්ථයෙන් සීල විශුද්ධියත්, අවික්ඛේප අර්ථයෙන් චිත්ත විශුද්ධියත්, දර්ශන (සංදිට්ඨි) අර්ථයෙන් දිට්ඨි විශුද්ධියත්, මිදී නිදහස් වීම යන මුත්ති අර්ථයෙන්, විමොක්ඛ විශුද්ධියත්, පටිවේධාර්ථයෙන් විජ්ජා විශුද්ධියත්, පරිච්චාග අර්ථයෙන් විමුක්ති ඥාණ දර්ශනයත් සමුච්ඡේදනාර්ථයෙන් ඛයේ ඥාණයත්, පටිපස්සදි වශයෙන් අනුප්පාද ඥාණයත් ලැබිය යුතුයි. මේ කරුණු අට ගැනම හෝ ඉන් කරුණු කිහිපයක් ගැන හෝ වෙනත් ආකාරයේ අර්ථ ගැන්වීම්වලින්ද විවිධ ආකාර වූ විග්‍රහයන්, අර්ථ ගැන්වීම් පසුකාලීනව කර ඇත. හැම අටුවාවකම, ටිප්පණියකම, ටීකාවකම සීලා දී මේ විශුද්ධි අටම සඳහා විවිධ අර්ථ කථනයන් ලබා දී ඇති බවත් පෙනේ. පසු කාලයකදී මේ අර්ථ ගැන්වීමට ලියූ අට්ඨකථා නිසාම සීල විශුද්ධිය සංවර අර්ථයෙන් බැහැර වී වේරමණී අර්ථයෙන් ම පමණක් විග්‍රහ කරන්නට යෑම නිවන් මාර්ගයේ මුල්ම පියවර ලෞකිකත්වයට හැරවීමක් ලෙසින් ද පෙන්වා දිය හැකිය. යමෙක් සීල විශුද්ධිය විග්‍රහ කරන්නේ සංවර අර්ථයෙන් තොර වූ, සංදේශණාවෙන් තොර වූ විග්‍රහයකින් නම් එය නිවන් මඟට උපකාර වන සේ සීලය විග්‍රහ කර පෙන්වා දීම ද කළ නොහැකි වේ. විරමණය, වේරමණී යන පදවලින් විග්‍රහ වන්නේ වෙන්වීම, වැළකී සිටීම

යන අර්ථයයි. නමුත් බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළ "පටිවිරතෝ" යන සිල් පදයෙහි පටිච්ච වීමෙන් තොර වූ, ඉන්ද්‍රියයන් සංවරකර ගත්, චේතනා සීලය, ප්‍රහාණ සීලය මෙන්ම අවිතික්කම සීලය ද ඇතුළත් වන නිසා මෙහි නිතැතින් ම වේරමණී සීලයද ඇතුළත් වේ. මේ අනුව සංවර අර්ථයෙන් තොරවූ සීලය නිවනට මඟ නොවේ.

මේ ආකාරයෙන්ම අවික්ඛේප අර්ථයෙන් තොර වූ චිත්ත විශුද්ධියක් ද නිවනට උපකාර වන්නේ නැත. සිතක් වික්ඛේප වන්නේම කාමච්ඡන්දය, ව්‍යාපාදය, ථීනමිද්ධය, උද්ධච්ච, විචිකිච්චා යන පංචකාම නීවරණ ධර්මවලින් යුත් සිතක් විසුරුණු ස්වභාවයකින් පවතින නිසයි. සිතක් වේදනාවට පත් වන්නේ තැති ගැනීමට, බිය වීමට, කම්පනයට, නොසන්සුන් වීමට මුල් වන්නේ මේ පංචකාම නීවරණ ධර්මවලින් මනස වැසී, මුවහ වී පවතින නිසාමයි. කාමයෙන් විවිච්ච වූ, පාප ධර්මවලින් විවිච්ච වූ සිතක් ඇති කර ගැනීමෙන්ම සිත අවික්ඛේප තත්ත්වයට පත් කරගත හැකි වෙයි. ඒ සඳහා නිවැරදි අරිය ආනාපාන සතියම භාවිතා කළ යුතුයි. හුස්ම ගැනීම, හුස්ම පිට කිරීම, බඩ පිම්බීම, හැකිළීම වැනි අනරිය ආනාපාන භාවනා ක්‍රමවලින් කාමයෙන් විවිච්ච වූ (වෙන් වූ) පාප ධර්මවලින් විවිච්ච වූ (වෙන් වූ) සිතක් ඇති කර ගෙන සිත අවික්ඛේප තත්ත්වයට පත්කර ගත නොහැකිය. නමුත් ඒ අනරිය භාවනා ක්‍රමවලද කසින භාවනා ක්‍රමවලද සිත සමථ තත්ත්වයට පත් කර ගැනීමේ යම් හැකියාවක් ද පවතියි. මෙහි වෙනස අරිය භාවනාවකින් ලබා ගත හැකි අවික්ඛේප අර්ථයෙන් චිත්ත විශුද්ධිය, අනරිය භාවනාවෙන් ලබාගත නොහැකි වීමයි. නීවරණ ධර්ම යටපත් කර බලයෙන් ලබාගත් සමාධි තත්ත්වයක් සමථ තත්ත්වයක් ධ්‍යාන තත්ත්වයක් අනරිය ධ්‍යානයකින් ද ලබා ගත හැකිය. නමුත් අනරිය යනු අවික්ඛේප අර්ථයෙන් ඇති කරගත් චිත්ත විශුද්ධියක් නොවෙයි. අවික්ඛේපාර්ථයෙන් ම අරිය සමාධි ලබා ගත හැකියි.

දස්සනට්ඨේන දිට්ඨි විශුද්ධි යන විග්‍රහයෙහිදී අර්ථය, ධර්මය සළකා බැලිය යුතුයි. අපායෙන් මිදී, සුගති ලෝකයක්, මිනිස් ලොව, දෙව්ලොව, බ්‍රහ්ම ලෝකය හෝ යම් ලෞකික සැප සම්පත් විඳවීමේ දෘෂ්ඨියක් ඇතිව යහපත්, නිවැරදි ලොවක් දකින්නේ නම් එයද නිවනට සාපේක්ෂව මිච්ඡා දෘෂ්ඨියකි. මේ නිසා බුද්ධ ධර්මයේ පරමාර්ථ ධර්මයන් දුක ධම්මෝ සංදිට්ඨිකෝ තත්ත්වයට පත් වූ අරිය ශ්‍රාවකයාගේ දස්සනය නිදහස් වීම, අනුප්පාදය, පැවැත්ම අමරණීය යන තත්ත්වයෙන්ම අරමුණු කරගත් සම්මා යන ලෝකෝත්තර දිට්ඨි විශුද්ධියයි. ඉන් මෙපිට ඇති ලෞකික වූත්, ආසව සහිත වූත්, පුණ්‍යභාගී වූත්, උපධිවිපක්ඛා සහිත වූත් සම්මා දිට්ඨිය "දස්සනට්ඨේන දිට්ඨි විශුද්ධිං" යන තත්ත්වයට වඩා පහත් වූ ලෞකික දෘෂ්ඨියකි.

මේ ආකාරයෙන්ම විමොක්ඛ විශුද්ධියට පත්වීමේදී ද අත්හැර, මිදී, නොඇලී, නිදහස් විය යුතු සියලුම රාග, ද්වේෂ, මෝහ ගති අතහැර කැමැත්තෙන් ම ඒවා බැහැර කළ යුතුයි. ප්‍රහාණය කළ යුතුයි. ඉවත් කළ යුතුයි. ඒ නිසා මුත්ති යන අර්ථය එහි අවධාරණය කර තිබේ. මුත්ති යනු යළිත් නොඇලෙන ලෙසින්ම අත්හැර, මිදී නිදහස් වීමයි. ධ්‍යාන වලින් ලබන විමෝක්ඛ තත්ත්වය රාග, ද්වේෂ ගති දෙක පමණක් යටපත් කර තාවකාලිකව ලබන විමුක්ති සුවයකි. එය රූපී, අරූපී ධ්‍යානවලින් ලබන චේතෝ විමුක්ති සුවයකි. එම චේතෝ විමුක්තිය අකුප්පා චේතෝ විමුක්තිය නොවේ. අකුප්පා චේතෝ විමුක්තියම,

මුත්ති අර්ථයෙන් විමොක්ඛ විශුද්ධිය ලෙසින් විග්‍රහ කරනු ලැබේ. අවිද්‍යා විරාගයෙන් ලබන විද්‍යා විමුක්තිය මාර්ගය මෙන්ම ඵලයන් ද අකුප්පා චේතෝ විමුක්තිය ලබා ගැනීමට උපකාර වන ප්‍රඥා විමුක්තියයි. මේ නිසා අරිය මාර්ගයේ පෙන්වූ විමෝක්ඛ විශුද්ධිය එතෙක් කලක් ලෞකික ආගම් සංකල්පවල භාවිතයේ පැවති චේතෝ විමුක්තිය නොවන බවත් පැහැදිළිවම දැක ගත යුතුයි. අද ලංකාවේ මෙන්ම තායිලන්තය, බුරුමය වාගේම බටහිර රටවලද භාවනාවේ යෙදෙන ලක්ෂ සංඛ්‍යාත වූ මිනිසුන් බලාපොරොත්තු වන්නේද චේතෝ විමුක්තියයි. එය අකුප්පා චේතෝ විමුක්තිය නම් නොවේ. එහි නිවනක් නැත. නිවනක් පතමින්ම අනරිය චේතෝ විමුක්තියක් සඳහාම භාවනා කිරීම ද කරන බව ඉතාමත් පැහැදිළියි.

ඒවාගේම පටිවේද අර්ථයෙන් ම විද්‍යා විමුක්තියත්, විජ්ජා විශුද්ධියත් ලබාගත යුතුයි. පටිසංවේදී හා පටිවේද යන පද අතර ඇති වෙනස මෙහිදී තේරුම් ගත යුතුයි. පටිඉච්ච වීමෙන් සං උදය වන බවත් උදයව්‍ය ඥාණයෙන් නිවැරදිවම තේරුම් ගත යුතුයි. පටිවේධ අර්ථයෙන් විද්‍යා විශුද්ධියට පත්වීම යන්නෙහි අදහස රූපාරම්මණයන් ආදී අරමුණුවලට පටිච්ච නොවී වේදනාවෙන් තොර වූ උපේක්ඛා සිතකින් අරමුණු ඉවසා, විමසා එහි "අනිච්ච" බව ප්‍රත්‍යක්ෂ ලෙස අවබෝධ කර ගැනීමේ ශක්තියයි. මෙය සම්මතය විද බලා පරමාර්ථය දැක ගැනීමේ විජ්ජා විශුද්ධියයි. ඒ නිසා ම එය"පටිවේධ අර්ථයෙන්ම" අවබෝධ කර ගත යුතුයි. යම් අරමුණකට ප්‍රියවී හෝ අප්‍රිය වී හෝ එය පටිසංවේදී වෙයි නම් එතැන උපේක්ඛා ඥාණයක් නැත. "සංඛාර උපේක්ඛා" ඥාණයම ලබාගෙන, පටිසංවේදී බවෙන් තොරව, උපේක්ඛා සිතින් ඉවසා, විමසා, සැනසීම ලබන මාර්ගය විජ්ජා විශුද්ධියයි.

ඊළගට පෙන්වූයේ පරිච්චාග අර්ථයෙන්ම විමුක්ති ඥාණ දර්ශනය ලබා ගැනීම කළ යුතු බවයි. මෙතැන "විමුක්තිය" යනු විමෝක්ඛ යනුවෙන් කලින් සඳහන් කළ අර්ථයට වඩා තරමක් වෙනස් අදහසකි. විමෝක්ඛ වීමෙන්ම විමුක්ති තත්ත්වයටද පත්විය යුතුයි. චාග යනු අත්හැරීමයි. පරිච්චාග යථාභූත ඥාණ දර්ශනයෙන්ම ප්‍රත්‍යක්ෂ අවබෝධයෙන්ම "සං" අත්හැරීමයි. රාග, ද්වේෂ, මෝහ ගති අත්හැරීමයි. පංචස්කන්ධය උපාදානය කර ගැනීමේ ක්‍රියාවලිය අත්හැරීමයි. පරිච්චාග යන පදයේ අර්ථය පූර්ණ වශයෙන්ම අත්හැර නිදහස් වීමයි. කැමැත්තෙන්ම අත්හැර නිදහස් වීමයි. කුණු ගොඩක්, බරක්, බැම්මක්, භය උපදවන දෙයක් බව යථාපරිදි දැක රාගය, ද්වේෂය, මෝහය යන කිළිටි ගති අවබෝධයෙන් ම සිතින් අත්හැරීමයි.

සමුච්ඡේද අර්ථයෙන්ම ඛයේ ඥාණය ලැබීම ඊළග පියවරයි. සමුච්ඡේද යනු "සං උදය" සහමුළින්ම ගළවා මුලින් ම උදුරා දමා ඉවත් කිරීම යන අර්ථයයි. ඛයේ ඥාණය යන පදයේ අර්ථය ද යමක් සහමුළින්ම ගළවා උදුරා දමා ඉවත් කිරීම යන අදහසයි. "අසේස විරාග නිරෝධෝ" යන ශේෂයක්වත්, කෙස්ගහක තරම් දෙයක්වත් ඉතිරි නොවන්නට ම මුළින්ම ගළවා දමා නිදහස් වීම යන අර්ථය, ඛයේ ඥාණං යන පදයේ අඩංගු වේ. "ඛණ සම්පත්තිය" යන පදවල සඳහන් "ඛණ" යන්නෙහි අර්ථයද ත්‍රිලක්ඛණය යන පදවල

සඳහන් "ඛණ" පදයෙහි අර්ථයද මේ ඛයේ ඥාණං යන පදයෙහි ම ඇතුළත්ය. ආසවක්ඛයා ඥාණය, අනුසයක්ඛයා ඥාණය ලබන්නේ ඛයේ ඥාණයෙනි. ඛීණාස්‍රවයන්වහන්සේ, "ඛීණාජාති" "ඛිණං පුරාණං" යන පදවල "ඛීණා" යන අර්ථයෙන් දක්වෙන්නේ "ඛයේ ඥාණය" පූර්ණ කරගත් යන අදහසයි. මේ අනුව "රාගක්ඛය" "ද්වේෂක්ඛය" හා මෝහක්ඛය යනු ඛයේ ඥාණයයි. රාගය, ද්වේෂය, මෝහය යන කිළිටි ගති (කුණු) සහමුළින්ම සිතින් අස්කර දමා සමුච්ඡේද වශයෙන් ම ප්‍රහාණය කර නැවත කිසි දිනක මතු නොවන ආකාරයට අස්කර දැමීම සමුච්ඡේද ප්‍රහාණයයි. ඛයේ ඥාණයයි. සං උත්පාදනය වීමේ හැකියාව මුලින් උදුරා දැමීමයි.

පටිපස්සද්ධි අර්ථයෙන්ම අනුප්පාදෙ ඥාණය අවසාන වශයෙන් ලබා ගැනීම "අමතෝගධං නිබ්බානං" ලෙස ධර්මයේ පෙන්වා දේ. "පටිපස්සද්ධි" යනු දස සංයෝජනයම "විවට්ට" තත්ත්වයට පත් කිරීමෙන් පටි දහයම ගළවා ඉවත් කර සියලු සංයෝජන ප්‍රහාණය කිරීමයි. සංයෝජන දහය ම ප්‍රහාණය කර දැමූ පසුව එහි "උප්පාදෝ" තත්ත්වයක් නොපවතී. අනුප්පාදෝ යන සුඤ්ඤත තත්ත්වයක් බවටම පත් වේ. රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් පමණක්ම ලෝකයට අයත් වන සියලු සංඛත ධර්ම උත්පාදනය කර ගැනීම සිදු වේ. රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් සහමුළින්ම තොර වූ සිතක විඤ්ඤාණ ශක්තියක් ක්‍රියාත්මක නොවන තත්ත්වය සුඤ්ඤත යන අදහස දේ. රාගයෙන් තොරවූ, ද්වේෂයෙන් තොරවූ, මෝහයෙන් තොරවූ සිතක් විඤ්ඤාණ ශක්තියෙන්ද තොරවූ විඤ්ඤාණ ශක්තිය සුඤ්ඤත වූ තත්ත්වයට පත් වීමත් සමගම ප්‍රඥා ශක්තිය පූර්ණ ලෙසින්ම ක්‍රියාත්මක වන සිතක් බවටත් ප්‍රභාස්වර සිතක් බවටත් පත් වේ. ප්‍රභාස්වර වූ සිතකින් කර්ම බීජ උත්පාදනය කිරීමේ ශක්තිය, ආයුහන ශක්තිය, සහමුළින්ම ඉවත්ව යන නිසා එවැනි සිතක "අනුප්පාදෝ ඥාණං" මිස "උප්පාදෝ විඤ්ඤාණං" යන තත්ත්වයන් නොපවතී. කර්ම බීජ සකස් නොවේ. එමනිසා අනුප්පාදෝ නිබ්බානං යනුවෙන් හඳුන්වනු ලබයි.

මේ විශුද්ධි විග්‍රහයේදී අවසානයට දෙයාකාර වූ ප්‍රහාණයක්, අත්හැර මීදී නිදහස් වීමක් විග්‍රහ වේ.

1. සමුච්ඡේදප්පහාණං 2. පටිපස්සද්ධිප්පහාණං

1. සමුච්ඡේදප්ප්‍රහාණය මඟින් "ලෝකෝත්තර ඛයගාමීමග්ගං භාවයතෝ" යන්නත් (සෝතපන්න ආදී මාර්ග හතරක්)
2. පටිපස්සද්ධිප්‍රහාණයෙන් පලක්ඛණ ප්‍රතිලාභයත් ලැබෙන බවත් පැහැදිළිවම ප්‍රකාශ කර ඇත.( සෝතාපන්න ආදී ඵල හතරක්)

නිවන් අවබෝධ කර ගැනීමේ උත්සාහයේදී පළමුවෙන්ම මාර්ගය සම්පූර්ණ කරගත යුතුයි. මාර්ගය සම්පූර්ණ කර ගැනීමේදී සතර අවස්ථාවකදීම සමුච්ඡේද වශයෙන්ම ආසව අනුසය ප්‍රහාණය කළ යුතුයි. සෝවාන් මාර්ගයේදී දිට්ඨාසව, දිට්ඨි අනුසය හා විචිකිච්චා අනුසය ඛය කළ යුතුයි. සකෘදාගාමී මාර්ගයේදී කාමාසව, භාවාසව තුනීකර ගත යුතුයි. ඕලාරික ආසව තුනීකර ගත යුතුයි. අනාගාමී මාර්ගයේදී කාමාසව, පටිඝාසව සියල්ල අනුසහගත වශයෙන්ම සහමුළින්ම සමුච්ඡේදප්ප්‍රහාණයට පත් වී යා

යුතුයි. අරහත්ත මාර්ගයේ දී "සබ්බ කිලේසේ පජහතෝ" සියලු ආකාර වූ රාග, ද්වේෂ, මෝහ කෙළෙස් මුලින් ගැලවී ගොස් භවාසව, අවිජ්ජාසව සමුච්ඡේද වශයෙන් ප්‍රහාණය වී යයි. මාර්ගය සම්පූර්ණ කර ගැනීමත් සමඟම පලක්ඛණ ප්‍රතිලාභයක් හතර අවස්ථාවකදීම සම්පූර්ණවීමත් සමඟම පටිපස්සධි තත්ත්වයට පත්වීම නිවනයි. "සංයෝජනා පහීයන්ති, ආසවා ඛයා හොන්ති" යනු මේ දෙයාකාරයයි.

## 3. 5. 6

## ඡ ඡක්ක සුත්තං

එවං මෙ සුතං : එකං සමයං භගවා සාවත්ථියං විහරති ජෙතවනෙ අනාථපිණ්ඩිකස්ස ආරාමෙ. තත්‍ර ඛො භගවා භික්ඛූ ආමන්තෙසි : 'භික්ඛවො'ති. භදන්තෙති තෙ භික්ඛූ භගවතො පච්චස්සොසුං. භගවා එතදවොච :

ධම්මං වො භික්ඛවෙ, දෙසිස්සාමි ආදිකල්‍යාණං මජ්ඣෙකල්‍යාණං පරියොසානකල්‍යාණං සාත්ථං සබ්‍යඤ්ජනං කෙවලපරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං පකාසිස්සාමි. යදිදං ඡ ඡක්කානි. තං සුණාථ, සාධුකං මනසිකරොථ. භාසිස්සාමී'ති.

එවං භන්තෙති ඛො තෙ භික්ඛූ භගවතො පච්චස්සොසුං. භගවා එතදවොච :

ඡ අජ්ඣත්තිකානි ආයතනානි වෙදිතබ්බානි. ඡ බාහිරානි ආයතනානි වෙදිතබ්බානි. ඡ විඤ්ඤාණකායා වෙදිතබ්බා. ඡ ඵස්සකායා වෙදිතබ්බා. ඡ වෙදනාකායා වෙදිතබ්බා. ඡ තණ්හාකායා වෙදිතබ්බා.

ඡ අජ්ඣත්තිකානි ආයතනානි වෙදිතබ්බානී'ති ඉති ඛො පනෙතං වුත්තං. කිඤ්චෙතං පටිච්ච වුත්තං. චක්ඛායතනං සොතායතනං ඝානායතනං ජිව්හායතනං කායායතනං මනායතනං. 'ඡ අජ්ඣත්තිකානි ආයතනානි වෙදිතබ්බානී'ති ඉති යං තං වුත්තං, ඉදමෙතං පටිච්ච වුත්තං. ඉදං පඨමං ඡක්කං.

'ඡ බාහිරානි ආයතනානි වෙදිතබ්බානී'ති ඉති ඛො පනෙතං වුත්තං, කිඤ්චෙතං පටිච්ච වුත්තං. රූපායතනං සද්දායතනං ගන්ධායතනං රසායතනං ඵොට්ඨබ්බායතනං ධම්මායතනං. ඡ බාහිරානි ආයතනානි වෙදිතබ්බානී'ති. ඉති යං තං වුත්තං, ඉදමෙතං පටිච්ච වුත්තං. ඉදං දුතියං ඡක්කං.

'ඡ විඤ්ඤාණකායා වෙදිතබ්බා'ති ඉති ඛො පනෙතං වුත්තං, කිඤ්චෙතං පටිච්ච වුත්තං. චක්ඛුඤ්ච පටිච්ච රූපෙ ච උප්පජ්ජති චක්ඛුවිඤ්ඤාණං. සොතඤ්ච පටිච්ච සද්දෙ ච උප්පජ්ජති සොතවිඤ්ඤාණං. ඝානඤ්ච පටිච්ච ගන්ධෙ ච උප්පජ්ජති ඝානවිඤ්ඤාණං. ජිව්හඤ්ච පටිච්ච රසෙ ච උප්පජ්ජති ජිව්හාවිඤ්ඤාණං. කායඤ්ච පටිච්ච ඵොට්ඨබ්බෙ ච උප්පජ්ජති කායවිඤ්ඤාණං. මනඤ්ච පටිච්ච ධම්මෙ ච උප්පජ්ජති මනොවිඤ්ඤාණං. 'ඡ විඤ්ඤාණකායා වෙදිතබ්බා'ති ඉති යං තං වුත්තං, ඉදමෙතං පටිච්ච වුත්තං. ඉදං තතියං ඡක්කං.

'ඡ ඵස්සකායා වෙදිතබ්බා'ති ඉති ඛො පනෙතං වුත්තං, කිඤ්චෙතං පටිච්ච වුත්තං. චක්ඛුඤ්ච පටිච්ච රූපෙ ච උප්පජ්ජති චක්ඛුවිඤ්ඤාණං, තිණ්ණං සඞ්ගති ඵස්සො. සොතඤ්ච පටිච්ච සද්දෙ ච උප්පජ්ජති සොතවිඤ්ඤාණං, තිණ්ණං සඞ්ගති ඵස්සො. ඝානඤ්ච පටිච්ච ගන්ධෙ ච උප්පජ්ජති ඝානවිඤ්ඤාණං, තිණ්ණං සඞ්ගති ඵස්සො. ජිව්හඤ්ච පටිච්ච රසෙ ච උප්පජ්ජති ජිව්හාවිඤ්ඤාණං, තිණ්ණං සඞ්ගති ඵස්සො. කායඤ්ච පටිච්ච ඵොට්ඨබ්බෙ ච උප්පජ්ජති කායවිඤ්ඤාණං, තිණ්ණං සඞ්ගති ඵස්සො. මනඤ්ච පටිච්ච ධම්මෙ ච උප්පජ්ජති මනොවිඤ්ඤාණං, තිණ්ණං සඞ්ගති ඵස්සො. 'ඡ ඵස්සකායා වෙදිතබ්බා'ති ඉති යං තං වුත්තං ඉදමෙතං පටිච්ච වුත්තං. ඉදං චතුත්ථං ඡක්කං.

'ඡ වෙදනාකායා වෙදිතබ්බා'ති ඉති ඛො පනෙතං වුත්තං. කිඤ්චෙතං පටිච්ච වුත්තං. චක්ඛුඤ්ච පටිච්ච රූපෙ ච උප්පජ්ජති චක්ඛුවිඤ්ඤාණං. තිණ්ණං සඞ්ගති ඵස්සො, ඵස්ස පච්චයා වෙදනා. සොතඤ්ච පටිච්ච සද්දෙ ච උප්පජ්ජති සොතවිඤ්ඤාණං-පෙ-ඝානඤ්ච පටිච්ච ගන්ධෙ ච උප්පජ්ජති ඝානවිඤ්ඤාණං-පෙ-ජිව්හඤ්ච පටිච්ච රසෙ ච උප්පජ්ජති ජිව්හාවිඤ්ඤාණං-පෙ-කායඤ්ච පටිච්ච ඵොට්ඨබ්බෙ ච උප්පජ්ජති කාය-විඤ්ඤාණං-පෙ-මනඤ්ච පටිච්ච ධම්මෙ ච උප්පජ්ජති මනොවිඤ්ඤාණං. තිණ්ණං සඞ්ගති ඵස්සො, ඵස්ස පච්චයා වෙදනා. 'ඡ වෙදනාකායා වෙදිතබ්බා'ති ඉති යං තං වුත්තං. ඉදමෙතං පටිච්ච වුත්තං. ඉදං පඤ්චමං ඡක්කං.

'ඡ තණ්හාකායා වෙදිතබ්බා'ති ඉති ඛො පනෙතං වුත්තං, කිඤ්චෙතං පටිච්ච වුත්තං. චක්ඛුඤ්ච පටිච්ච රූපෙ ච උප්පජ්ජති චක්ඛුවිඤ්ඤාණං, තිණ්ණං සඞ්ගති ඵස්සො, ඵස්සපච්චයා වෙදනා, වෙදනාපච්චයා තණ්හා. සොතඤ්ච පටිච්ච සද්දෙ ච උප්පජ්ජති සොතවිඤ්ඤාණං-පෙ-ඝානඤ්ච පටිච්ච ගන්ධෙ ච උප්පජ්ජති ඝානවිඤ්ඤාණං-පෙ-ජිව්හඤ්ච පටිච්ච රසෙ ච උප්පජ්ජති ජිව්හාවිඤ්ඤාණං-පෙ-කායඤ්ච පටිච්ච ඵොට්ඨබ්බෙ ච උප්පජ්ජති කායවිඤ්ඤාණං-පෙ-මනඤ්ච පටිච්ච ධම්මෙ ච උප්පජ්ජති මනොවිඤ්ඤාණං. තිණ්ණං සඞ්ගති ඵස්සො, ඵස්සපච්චයා වෙදනා, වෙදනාපච්චයා තණ්හා. 'ඡ තණ්හාකායා වෙදිතබ්බා'ති ඉති යං තං වුත්තං, ඉදමෙතං පටිච්ච වුත්තං. ඉදං ඡට්ඨං ඡක්කං.

චක්ඛුං[1] අත්තාති යො වදෙය්‍ය තං න උපපජ්ජති.[2] චක්ඛුස්ස උප්පාදොපි වයොපි පඤ්ඤායති. යස්ස ඛො පන උප්පාදොපි වයොපි පඤ්ඤායති, 'අත්තා මෙ උප්පජ්ජති ච වෙති චා'ති ඉච්චස්ස එවමාගතං හොති. තස්මා තං න උපපජ්ජති, චක්ඛුං අත්තාති යො වදෙය්‍ය. ඉති චක්ඛුං අනත්තා.

'රූපා අත්තා'ති යො වදෙය්‍ය තං න උපපජ්ජති. රූපානං උප්පාදොපි වයොපි පඤ්ඤායති. යස්ස ඛො පන උප්පාදොපි වයොපි පඤ්ඤායති. 'අත්තා මෙ උප්පජ්ජති ච වෙති චා'ති ඉච්චස්ස එවමාගතං හොති. තස්මා තං න උපපජ්ජති රූපා අත්තාති යො වදෙය්‍ය. ඉති චක්ඛුං අනත්තා රූපා අනත්තා.

---

1. චක්ඛු - මජ්ඣං, සීමු.
2. උපපජ්ජති - PTS.

චක්ඛුවිඤ්ඤාණං අත්තා'ති යො වදෙය්‍ය. තං න උපපජ්ජති. චක්ඛුවිඤ්ඤාණස්ස උප්පාදොපි වයොපි පඤ්ඤායති. යස්ස ඛො පන උප්පාදොපි වයොපි පඤ්ඤායති, 'අත්තා මෙ උප්පජ්ජති ච වෙති චා'ති ඉච්චස්ස එවමාගතං හොති. තස්මා තං න උපපජ්ජති. 'චක්ඛුවිඤ්ඤාණං අත්තා'ති යො වදෙය්‍ය. ඉති චක්ඛුං අනත්තා රූපා අනත්තා චක්ඛුවිඤ්ඤාණං අනත්තා.

චක්ඛුසම්ඵස්සො අත්තා'ති යො වදෙය්‍ය, තං න උපපජ්ජති. චක්ඛුසම්ඵස්සස්ස උප්පාදොපි වයොපි පඤ්ඤායති. යස්ස ඛො පන උප්පාදොපි වයොපි පඤ්ඤායති. 'අත්තා මෙ උප්පජ්ජති ච වෙති චා'ති ඉච්චස්ස එවමාගතං හොති. තස්මා තං න උපපජ්ජති 'චක්ඛුසම්ඵස්සො අත්තා'ති යො වදෙය්‍ය. ඉති චක්ඛුං අනත්තා, රූපා අනත්තා, චක්ඛුවිඤ්ඤාණං අනත්තා, චක්ඛුසම්ඵස්සො අනත්තා.

'වෙදනා අත්තා'ති යො වදෙය්‍ය. තං න උපපජ්ජති. වෙදනාය උප්පාදොපි වයොපි පඤ්ඤායති. යස්ස ඛො පන උප්පාදොපි වයොපි පඤ්ඤායති. 'අත්තා මෙ උප්පජ්ජති ච වෙති චා'ති ඉච්චස්ස එවමාගතං හොති. තස්මා තං න උපපජ්ජති වෙදනා අත්තාති යො වදෙය්‍ය. ඉති චක්ඛුං අනත්තා රූපා අනත්තා චක්ඛුවිඤ්ඤාණං අනත්තා චක්ඛුසම්ඵස්සො අනත්තා. වෙදනා අනත්තා.

'තණ්හා අත්තා'ති යො වදෙය්‍ය. තං න උපපජ්ජති. තණ්හාය උප්පාදොපි වයොපි පඤ්ඤායති. යස්ස ඛො පන උප්පාදොපි වයොපි පඤ්ඤායති, 'අත්තා මෙ උප්පජ්ජති ච වෙති චා'ති ඉච්චස්ස එවමාගතං හොති. තස්මා තං න උපපජ්ජති 'තණ්හා අත්තා'ති යො වදෙය්‍ය. ඉති චක්ඛුං අනත්තා රූපා අනත්තා චක්ඛුවිඤ්ඤාණං අනත්තා චක්ඛුසම්ඵස්සො අනත්තා, වෙදනා අනත්තා. තණ්හා අනත්තා.

සොතං අත්තාති යො වදෙය්‍ය -පෙ- ඝානං අත්තාති යො වදෙය්‍ය -පෙ- ජිව්හා අත්තාති යො වදෙය්‍ය -පෙ- කායො අත්තාති යො වදෙය්‍ය -පෙ- මනො අත්තාති යො වදෙය්‍ය. තං න උපපජ්ජති. මනස්ස උප්පාදොපි වයොපි පඤ්ඤායති, යස්ස ඛො පන උප්පාදොපි වයොපි පඤ්ඤායති. 'අත්තා මෙ උප්පජ්ජති ච වෙති චාති ඉච්චස්ස එවමාගතං හොති. තස්මා තං න උපපජ්ජති මනො අත්තාති යො වදෙය්‍ය. ඉති මනො අනත්තා.

'ධම්මා අත්තා'ති යො වදෙය්‍ය. තං න උපපජ්ජති. ධම්මානං උප්පාදොපි වයොපි පඤ්ඤායති. යස්ස ඛො පන උප්පාදොපි වයොපි පඤ්ඤායති, 'අත්තා මෙ උප්පජ්ජති ච වෙති චා'ති ඉච්චස්ස එවමාගතං හොති. තස්මා තං න උපපජ්ජති. 'ධම්මා අත්තා'ති යො වදෙය්‍ය. ඉති මනො අනත්තා ධම්මා අනත්තා.

'මනොවිඤ්ඤාණං අත්තා'ති යො වදෙය්‍ය. තං න උපපජ්ජති. මනොවිඤ්ඤාණස්ස උප්පාදොපි වයොපි පඤ්ඤායති. යස්ස ඛො පන උප්පාදොපි වයොපි පඤ්ඤායති. 'අත්තා මෙ උප්පජ්ජති ච වෙති චා'ති ඉච්චස්ස එවමාගතං හොති. තස්මා තං න උපපජ්ජති 'මනොවිඤ්ඤාණං අත්තා'ති යො වදෙය්‍ය. ඉති මනො අනත්තා, ධම්මා අනත්තා, මනොවිඤ්ඤාණං අනත්තා.

'මනොසම්ඵස්සො අත්තා'ති යො වදෙය්‍ය. තං න උපපජ්ජති. මනොසම්ඵස්සස්ස උප්පාදොපි වයොපි පඤ්ඤායති. යස්ස ඛො පන උප්පාදොපි වයොපි පඤ්ඤායති. 'අත්තා මෙ උපපජ්ජති ච වෙති චා'ති ඉච්චස්ස එවමාගතං හොති. තස්මා තං න උපපජ්ජති 'මනොසම්ඵස්සො අත්තා'ති යො වදෙය්‍ය. ඉති මනො අනත්තා, ධම්මා අනත්තා, මනොවිඤ්ඤාණං අනත්තා, මනොසම්ඵස්සො අනත්තා.

'වෙදනා අත්තා'ති යො වදෙය්‍ය. තං න උපපජ්ජති. වෙදනාය උප්පාදොපි වයොපි පඤ්ඤායති. යස්ස ඛො පන උප්පාදොපි වයොපි පඤ්ඤායති 'අත්තා මෙ උපපජ්ජති ච වෙති චා'ති ඉච්චස්ස එවමාගතං හොති තස්මා තං න උපපජ්ජති. 'වෙදනා අත්තා'ති යො වදෙය්‍ය ඉති මනො අනත්තා, ධම්මා අනත්තා, මනොවිඤ්ඤාණං අනත්තා, මනොසම්ඵස්සො අනත්තා, වෙදනා අනත්තා.

'තණ්හා අත්තා'ති යො වදෙය්‍ය. තං න උපපජ්ජති. තණ්හාය උප්පාදොපි වයොපි පඤ්ඤායති. යස්ස ඛො පන උප්පාදොපි වයොපි පඤ්ඤායති. 'අත්තා මෙ උපපජ්ජති ච වෙති චා'ති ඉච්චස්ස එවමාගතං හොති. තස්මා තං න උපපජ්ජති 'තණ්හා අත්තා'ති යො වදෙය්‍ය. ඉති මනො අනත්තා, ධම්මා අනත්තා, මනොවිඤ්ඤාණං අනත්තා, මනොසම්ඵස්සො අනත්තා, වෙදනා අනත්තා, තණ්හා අනත්තා.

අයං ඛො පන භික්ඛවෙ, සක්කාය සමුදයගාමිනී පටිපදා: චක්ඛුං 'එතං මම, එසොහමස්මි, එසො මෙ අත්තා'ති සමනුපස්සති. රූපෙ 'එතං මම, එසොහමස්මි, එසො මෙ අත්තා'ති සමනුපස්සති. චක්ඛුවිඤ්ඤාණං 'එතං මම, එසොහමස්මි, එසො මෙ අත්තා'ති සමනුපස්සති. චක්ඛුසම්ඵස්සං 'එතං මම, එසොහමස්මි, එසො මෙ අත්තා'ති සමනුපස්සති. වෙදනං 'එතං මම, එසොහමස්මි, එසො මෙ අත්තා'ති සමනුපස්සති. තණ්හං 'එතං මම, එසොහමස්මි, එසො මෙ අත්තා'ති සමනුපස්සති. සොතං 'එතං මම, -පෙ- ඝානං එතං මම -පෙ- ජිව්හං එතං මම -පෙ- කායං එතං මම-පෙ-මනං 'එතං මම, එසොහමස්මි, එසො මෙ අත්තා'ති සමනුපස්සති. ධම්මෙ 'එතං මම, එසොහමස්මි, එසො මෙ අත්තා'ති සමනුපස්සති. මනොවිඤ්ඤාණං 'එතං මම, එසොහමස්මි, එසො මෙ අත්තා'ති සමනුපස්සති. මනොසම්ඵස්සං එතං මම, එසොහමස්මි, එසො මෙ අත්තා'ති සමනුපස්සති. වෙදනං 'එතං මම, එසොහමස්මි, එසො මෙ අත්තාති සමනුපස්සති. තණ්හං 'එතං මම, එසොහමස්මි. එසො මෙ අත්තා'ති සමනුපස්සති.

අයං ඛො පන භික්ඛවෙ, සක්කාය නිරොධගාමිනීපටිපදා: චක්ඛුං 'නෙතං මම, නෙසොහමස්මි, න මෙසො අත්තා'ති සමනුපස්සති. රූපෙ 'නෙතං මම, නෙසොහමස්මි, න මෙසො අත්තා'ති සමනුපස්සති. 'චක්ඛුවිඤ්ඤාණං 'නෙතං මම, නෙසොහමස්මි, න මෙසො අත්තා'ති සමනුපස්සති. චක්ඛුසම්ඵස්සං 'නෙතං මම, නෙසොහමස්මි, න මෙසො අත්තා'ති සමනුපස්සති. වෙදනං 'නෙතං මම, නෙසොහමස්මි, න මෙසො අත්තා'ති සමනුපස්සති. තණ්හං 'නෙතං මම, නෙසොහමස්මි, න මෙසො අත්තා'ති සමනුපස්සති. සොතං නෙතං මම -පෙ- ඝානං නෙතං මම-පෙ- ජිව්හං නෙතං මම -පෙ- කායං නෙතං මම -පෙ- මනං 'නෙතං මම, නෙසොහමස්මි, න මෙසො අත්තා'ති සමනුපස්සති. ධම්මෙ 'නෙතං මම,

නෙසොහමස්මි, න මෙසො අත්තා’ති සමනුපස්සති. මනොවිඤ්ඤාණං ‘නෙතං මම, නෙසොහමස්මි, න මෙසො අත්තා’ති සමනුපස්සති. මනොසම්ඵස්සං ‘නෙතං මම, නෙසොහමස්මි, න මෙසො අත්තා’ති සමනුපස්සති. වෙදනං ‘නෙතං මම, නෙසොහමස්මි, න මෙසො අත්තා’ති සමනුපස්සති. තණ්හං ‘නෙතං මම, නෙසොහමස්මි, න මෙසො අත්තා’ති සමනුපස්සති.

චක්ඛුඤ්ච භික්ඛවෙ, පටිච්ච රූපෙ ච උප්පජ්ජති චක්ඛුවිඤ්ඤාණං. තිණ්ණං සඞ්ගති ඵස්සො. ඵස්සපච්චයා උප්පජ්ජති වෙදයිතං සුඛං වා දුක්ඛං වා අදුක්ඛමසුඛං වා. සො සුඛාය වෙදනාය ඵුට්ඨො සමානො අභිනන්දති අභිවදති අජ්ඣොසාය තිට්ඨති. තස්ස රාගානුසයො අනුසෙති. දුක්ඛාය වෙදනාය ඵුට්ඨො සමානො සොචති කිලමති පරිදෙවති උරත්තාළිං කන්දති සම්මොහං ආපජ්ජති. තස්ස පටිඝානුසයො අනුසෙති. අදුක්ඛමසුඛාය වෙදනාය ඵුට්ඨො සමානො තස්සා වෙදනාය සමුදයඤ්ච අත්ථඞ්ගමඤ්ච අස්සාදඤ්ච ආදීනවඤ්ච නිස්සරණඤ්ච යථාභූතං නප්පජානාති. තස්ස අවිජ්ජානුසයො අනුසෙති. සො වත භික්ඛවෙ, සුඛාය වෙදනාය රාගානුසයං අප්පහාය දුක්ඛාය වෙදනාය පටිඝානුසයං අප්පටිවිනොදෙත්වා අදුක්ඛමසුඛාය වෙදනාය අවිජ්ජානුසයං අසමූහනිත්වා අවිජ්ජං අප්පහාය විජ්ජං අනුප්පාදෙත්වා දිට්ඨෙව ධම්මෙ දුක්ඛස්සන්තකරො භවිස්සතීති නෙතං ඨානං විජ්ජති.

සොතඤ්ච භික්ඛවෙ පටිච්ච සද්දෙ ච උප්පජ්ජති සොතවිඤ්ඤාණං. -පෙ- ඝානඤ්ච භික්ඛවෙ, පටිච්ච ගන්ධෙ ච උප්පජ්ජති ඝානවිඤ්ඤාණං. -පෙ- ජිව්හඤ්ච භික්ඛවෙ, පටිච්ච රසෙ ච උප්පජ්ජති ජිව්හාවිඤ්ඤාණං. -පෙ- කායඤ්ච භික්ඛවෙ, පටිච්ච ඵොට්ඨබ්බෙ ච උප්පජ්ජති කායවිඤ්ඤාණං. -පෙ- මනඤ්ච භික්ඛවෙ, පටිච්ච ධම්මෙ ච උප්පජ්ජති මනොවිඤ්ඤාණං. තිණ්ණං සඞ්ගති ඵස්සො. ඵස්සපච්චයා උප්පජ්ජති වෙදයිතං සුඛං වා දුක්ඛං වා අදුක්ඛමසුඛං වා. සො සුඛාය වෙදනාය ඵුට්ඨො සමානො අභිනන්දති අභිවදති අජ්ඣොසාය තිට්ඨති. තස්ස රාගානුසයො අනුසෙති. දුක්ඛාය වෙදනාය ඵුට්ඨො සමානො සොචති කිලමති පරිදෙවති උරත්තාළිං කන්දති සම්මොහං ආපජ්ජති, තස්ස පටිඝානුසයො අනුසෙති. අදුක්ඛමසුඛාය වෙදනාය ඵුට්ඨො සමානො තස්සා වෙදනාය සමුදයඤ්ච අත්ථඞ්ගමඤ්ච අස්සාදඤ්ච ආදීනවඤ්ච නිස්සරණඤ්ච යථාභූතං නප්පජානාති. තස්ස අවිජ්ජානුසයො අනුසෙති. සො වත භික්ඛවෙ, සුඛාය වෙදනාය රාගානුසයං අප්පහාය දුක්ඛාය වෙදනාය පටිඝානුසයං අප්පටිවිනොදෙත්වා අදුක්ඛමසුඛාය වෙදනාය අවිජ්ජානුසයං අසමූහනිත්වා අවිජ්ජං අප්පහාය විජ්ජං අනුප්පාදෙත්වා දිට්ඨෙව ධම්මෙ දුක්ඛස්සන්තකරො භවිස්සතීති නෙතං ඨානං විජ්ජති.

චක්ඛුඤ්ච ඛො භික්ඛවෙ, පටිච්ච රූපෙ ච උප්පජ්ජති චක්ඛුවිඤ්ඤාණං, තිණ්ණං සඞ්ගති ඵස්සො, ඵස්සපච්චයා උප්පජ්ජති වෙදයිතං සුඛං වා දුක්ඛං වා අදුක්ඛමසුඛං වා. සො සුඛාය වෙදනාය ඵුට්ඨො සමානො නාභිනන්දති, නාභිවදති, නාජ්ඣොසාය තිට්ඨති. තස්ස රාගානුසයො නානුසෙති. දුක්ඛාය වෙදනාය ඵුට්ඨො සමානො න සොචති, න කිලමති, න පරිදෙවති, න උරත්තාළිං කන්දති, න සම්මොහං ආපජ්ජති. තස්ස පටිඝානුසයො නානුසෙති. අදුක්ඛමසුඛාය වෙදනාය ඵුට්ඨො සමානො තස්සා වෙදනාය සමුදයඤ්ච අත්ථඞ්ගමඤ්ච අස්සාදඤ්ච ආදීනවඤ්ච නිස්සරණඤ්ච යථාභූතං පජානාති. තස්ස අවිජ්ජානුසයො නානුසෙති. සො වත භික්ඛවෙ, සුඛාය වෙදනාය රාගානුසයං පහාය දුක්ඛාය වෙදනාය පටිඝානුසයං පටිවිනොදෙත්වා අදුක්ඛමසුඛාය වෙදනාය අවිජ්ජානුසයං සමූහනිත්වා අවිජ්ජං පහාය විජ්ජං උප්පාදෙත්වා දිට්ඨෙව ධම්මෙ දුක්ඛස්සන්තකරො භවිස්සතීති ඨානමෙතං විජ්ජති.

සොතඤ්ච භික්ඛවෙ, පටිච්ච සද්දෙ ච උප්පජ්ජති සොතවිඤ්ඤාණං -පෙ- ඝානඤ්ච භික්ඛවෙ, පටිච්ච ගන්ධෙ ච උප්පජ්ජති ඝානවිඤ්ඤාණං -පෙ- ජිව්හඤ්ච භික්ඛවෙ, පටිච්ච රසෙ ච උප්පජ්ජති ජිව්හාවිඤ්ඤාණං-පෙ- කායඤ්ච භික්ඛවෙ, පටිච්ච ඵොට්ඨබ්බෙ ච උප්පජ්ජති කායවිඤ්ඤාණං -පෙ- මනඤ්ච භික්ඛවෙ, පටිච්ච ධම්මෙ ච උප්පජ්ජති මනොවිඤ්ඤාණං. තිණ්ණං සඞ්ගති ඵස්සො, ඵස්සපච්චයා උප්පජ්ජති වෙදයිතං සුඛං වා දුක්ඛං වා අදුක්ඛමසුඛං වා. සො සුඛාය වෙදනාය ඵුට්ඨො සමානො නාභිනන්දති, නාභිවදති, නාජ්ඣොසාය තිට්ඨති. තස්ස රාගානුසයො නානුසෙති. සො දුක්ඛාය වෙදනාය ඵුට්ඨො සමානො -පෙ- සො අදුක්ඛමසුඛාය වෙදනාය ඵුට්ඨො සමානො තස්සා වෙදනාය සමුදයඤ්ච අත්ථඞ්ගමඤ්ච අස්සාදඤ්ච ආදීනවඤ්ච නිස්සරණඤ්ච යථාභූතං පජානාති. තස්ස අවිජ්ජානුසයො නානුසෙති. සො වත භික්ඛවෙ, සුඛාය වෙදනාය රාගානුසයං පහාය දුක්ඛාය වෙදනාය පටිඝානුසයං පටිවිනොදෙත්වා අදුක්ඛමසුඛාය වෙදනාය අවිජ්ජානුසයං සමූහනිත්වා අවිජ්ජං පහාය විජ්ජං උප්පාදෙත්වා දිට්ඨෙව ධම්මෙ දුක්ඛස්සන්තකරො භවිස්සතීති ඨානමෙතං විජ්ජති.

එවං පස්සං භික්ඛවෙ, සුතවා අරියසාවකො චක්ඛුස්මිං නිබ්බින්දති. රූපෙසු නිබ්බින්දති. චක්ඛුවිඤ්ඤාණෙ නිබ්බින්දති. චක්ඛුසම්ඵස්සෙ නිබ්බින්දති. වෙදනාය නිබ්බින්දති තණ්හාය නිබ්බින්දති. සොතස්මිං නිබ්බින්දති. සද්දෙසු නිබ්බින්දති-පෙ-ඝානස්මිං නිබ්බින්දති. ගන්ධෙසු නිබ්බින්දති. -පෙ- ජිව්හාය නිබ්බින්දති, රසෙසු නිබ්බින්දති -පෙ- කායස්මිං නිබ්බින්දති, ඵොට්ඨබ්බෙසු නිබ්බින්දති -පෙ- මනස්මිං නිබ්බින්දති, ධම්මෙසු නිබ්බින්දති, මනොවිඤ්ඤාණෙ නිබ්බින්දති, මනොසම්ඵස්සෙ නිබ්බින්දති, වෙදනාය නිබ්බින්දති, තණ්හාය නිබ්බින්දති, නිබ්බින්දං විරජ්ජති, විරාගා විමුච්චති, විමුත්තස්මිං විමුත්තමිති ඤාණං හොති : 'ඛීණා ජාති, වුසිතං බ්‍රහ්මචරියං, කතං කරණීයං, නාපරං ඉත්ථත්තායා'ති පජානාතීති.

ඉදමවොච භගවා. අත්තමනා තෙ භික්ඛූ භගවතො භාසිතං අභිනන්දුන්ති. ඉමස්මිඤ්ච පන වෙය්‍යාකරණස්මිං භඤ්ඤමානෙ සට්ඨිමත්තානං භික්ඛූනං අනුපාදාය ආසවෙහි චිත්තානි විමුච්චිංසූති.

ඡ ඡක්ක සුත්තං ඡට්ඨං.

ගන්ධකාය, රසකාය, පොට්ඨබ්බකාය හා ධම්මකාය යන මේ බාහිර කායයන් හය මේ දෙවන චක්‍රයන් හයයි.

(3) තුන්වන චක්‍රයන් හය ලෙසින් පෙන්වා වදාළේ විඤ්ඤාණකායන් හයයි. ඇසෙන් කරන ක්‍රියාකාරකමට පටිච්ච වන රූපායතනය හේතුකොට ගෙන චක්ඛු විඤ්ඤාණකායක් උපදී. ("චක්ඛුං ච පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං") ඒවගේම කනෙන් කරන ක්‍රියාකාරකම සමග බාහිර ශබ්දායතනයක් පටිච්චවීම නිසා, සෝත විඤ්ඤාණකායක් උපත ලබයි. නාසයෙන් කරන ක්‍රියාකාරකම සමග ගන්ධායතනය පටිච්චවීම නිසා එය හේතුකොටගෙන ඝාන විඤ්ඤාණකායක් උපත ලබයි. දිවෙන් කරන ක්‍රියාකාරකම් සමග රසායතනය පටිච්චවීම නිසා එය හේතුකොටගෙන ජිව්හා විඤ්ඤාණකායක් උපත ලබයි. ශරීරයෙන් කරන ක්‍රියාකාරකම් සමග පොට්ඨබ්බායතනය පටිට්චවීම නිසා ඒ පහස හේතුකොටගෙන කාය විඤ්ඤාණකායක් උපත ලබයි. මනසින් කරන ක්‍රියාකාරකම් සමග ධම්මායතනය පටිච්චවීමේ හේතුව නිසාම මනෝ විඤ්ඤාණකායක් උපත ලබයි. මේ තුන්වන විඤ්ඤාණකායන් හයයි. ("මනා ච පටිච්ච ධම්මෝච උප්පජ්ජති මනෝවිඤ්ඤාණං")

මේ අවස්ථාවේදී විග්‍රහ කරදිය යුතු වැදගත්ම මාගධී පදයක් මෙහිදී භාවිතාකර ඇත. මේ පදය නම් "පටිච්ච" (පටි+ඉච්ච) යන පදයයි. චක්ඛු විඤ්ඤාණකාය, සෝත විඤ්ඤාණකාය, ඝාන විඤ්ඤාණකාය, ජිව්හා විඤ්ඤාණකාය, කාය විඤ්ඤාණකාය හා මනෝ විඤ්ඤාණකාය යන හයවැදෑරුම් විඤ්ඤාණ ශක්තීන්ම කෙනෙකු තුළ උපත ලබන්නේම මෙසේ පටිච්චවීමේ නියත හේතුව නිසාමය. "පටිච්ච (පටි+ඉච්ච) යනු සිතේ උපන් කැමැත්තට බැඳීම යන්නයි. මෙම පටිච්ච වීමද තුන් ආකාරයකින්ම සිතක් තුළ ක්‍රියාත්මක වෙයි.

(i) ඇසෙන් දුටු රූපය පිළිබඳව කැමැත්තක්, ප්‍රිය බවක්, එම රූපය අල්ලා උපාදානය කරගැනීමේ ආශාවක්, මනාපයක් ඇතිවීම නිසා ඇසින් දුටු රූපයට පටිච්ච වේ. මෙය ප්‍රිය බවට ඇලීම නිසා සිතක උපත ලබන පළමුවන පටිච්චවීමේ ක්‍රමයයි.

(ii) ඇසෙන් දුටු රූපයට අප්‍රිය බවක් අමනාප බවක් සිතෙහි ඇතිවී නම් ඒ අවස්ථාවෙහි ද්වේෂයක් සිතෙහි ඇතිවෙයි. මේ දෙවෙනි වේෂයෙන් පටිච්චවීමයි. මේ දෙවෙනි වේෂයෙන් පටිච්චවීමෙන් ද සිතේ පටිසයක්, ගැටීමක් ඇති වෙයි.

(iii) ඇසෙන් දුටු රූපය කෙරෙහි අදුක්ඛම අසුඛ ස්වභාවයෙන් පටිච්චවීම තුන්වන පටිච්චවීමයි. මෙහිදී වන්නේ වැරදි මැනීමක් වැරදි මානයක් මඤ්ඤතාවයක් ඒ රූපය ගැනම සිතෙහි ඇතිවීමයි. ඒ මැනීම, මානය දුක හා සුබ අතර උපදින මානයකි. සිතක විහිංසා විතක්ක විචාර උපත ලබන්නේ මේ ආකාරයෙන් පටිච්චවීමෙනි. මේ අනුව ප්‍රිය දේට ඇලීම, අප්‍රිය දේට ගැටීම හා ප්‍රිය අප්‍රිය දේ අතර මුළාවීම යන තුන් ආකාරයෙන්ම ඇස, කන, නාසය, දිව, කය, මනස

යන ආයතන හයටමත් පටිච්චවීම නිසා විඤ්ඤාණ ශක්තියක් බිහිවීම සිදු වෙයි. මේ පටිච්චවීම මූලික හේතුව කොටගෙනම, නිදාන හේතුව කොටගෙනම, ප්‍රත්‍යවීම හේතු කොටගෙනම ඉහත සඳහන් කරන ලද චක්‍රයන් තිස් හයක්ම සිතක් තුළම ක්‍රියාත්මක වී, සමුදය ශක්තියක් ද උත්පාදනය කරයි. ("හේතුං පටිච්ච සංභූතං")

(4) මේ විග්‍රහයේ පෙන් වූ හතර වන චක්‍රාකාර වූ ක්‍රියාකාරකම් හය වන්නේ සම්ඵස්සකායන් හයයි. "චක්ඛුංච පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං, තින්නං සංගති ඵස්සෝ" වශයෙන් චක්ඛු සම්ඵස්ස, සෝත සම්ඵස්ස, ඝාන සම්ඵස්ස, ජිව්හා සම්ඵස්ස, කාය සම්ඵස්ස හා මනෝ සම්ඵස්ස යනුවෙන් පෙන්වා වදාළේ පටිච්චවීමේ ප්‍රතිඵලයන් ලෙස ආයතන හයට අදාළවම උපත ලබන චක්‍රාකාරව ක්‍රියාත්මක වන ස්පර්ශ කායයන් හයකි. මේ හතරවන චක්‍රයයි.

(5) පස්වැනිව චක්‍රාකාරව උපත ලබා ක්‍රියාත්මක වන කායයන් හය වන්නේ වේදනාකායයන් හයයි. චක්ඛු සම්ඵස්සය නිසා චක්ඛු සම්ඵස්ස වේදනාකායද, සෝත සම්ඵස්සය නිසා සෝත සම්ඵස්ස වේදනාකායද, ඝාන සම්ඵස්ස නිසා ඝාන සම්ඵස්ස වේදනාකායයද, ජිව්හා සම්ඵස්සය නිසා ජිව්හා සම්ඵස්ස වේදනාකායද, කාය සම්ඵස්සය නිසා කාය සම්ඵස්ස වේදනාකායයද, මනෝ සම්ඵස්ස කාය නිසා මනෝ සම්ඵස්ස වේදනාකායයද සිතක උපත ලබයි. මේ පටිච්චවීම හේතුකොට ගෙන උපත ලබන පස්වැනි වේදනා කායයන් (ක්‍රියාකාරකම්) හයයි.

මේ සෑම වේදනාකායක්ම යළිත් තුන් ආකාර වෙයි.

i. සෝමනස්ස සහගත වූ සුව වේදනාව විඳීම නිසා ප්‍රිය බවට ඇලීමෙන් ලබන ආමිස සුවය එක් වේදනාවකි.
ii. දෝමනස්ස සහගත වූ දුක් වේදනාවට ගැටීම (පටිඝ) නිසා සිතේ උපදින ආමිස සුවය විඳීම දෙවෙනි වේෂයේ වේදනාවයි.
iii. එමෙන්ම අදුක්ඛම අසුඛ වූ සොම්නස් දොම්නස් දෙක අතර ලබන (උභයම අන්තරේ) වේදනාව විඳවීම තුන්වැනි ආකාර වූ වේදනාවයි. අස්සුතවත් පෘථග්ජන ලෝකයා දුක් විඳින්නේම මේ වේදනාවන් උපාදානය කරගෙන, සක්කාය දිට්ඨියෙන් ගෙන ඒ අනුව වේදනා විඳවීමෙනි. මේ වේදනා සියල්ලම විඳවීමට හේතුව ද සිතින්ම පටිච්චවීමයි. වේදනාව එකකි. විඳව විඳවා සිටීම තවත් සංසිද්ධියකි.

(6) හයවන චක්‍රාකාර ක්‍රියාකාරකම් හය වන්නේ ඇස, කන, නාසය, දිව, කය හා මනස ආදිය මුල් කරගෙනම සිතේ උපත ලබන "තණ්හාකායයන්" හයයි. "තණ්හා'' යනු යම් තැනක හාවීමයි. ඇසෙන් දුටු රූපය ප්‍රිය මනාප එකක් නම් ඒ නිසා උපත ල බ න "සංඵස්ස ජා වේදනාව නිසා" ඒ රූපය සමග සිතින් හා වෙයි. එහිදී ඇසෙන් හාවෙන්නේ නැත. ඇසින් දුටු රූපය නිසා උපත ලැබූ වේදනාව නිසාම බාහිර

රූපය සමඟ සිතෙන් හාවෙයි. මේ හාවීම "තණ්හාව" යන පදයේ අර්ථයයි. මේ ආකාරයටම කනෙන් ඇසුණු ශබ්දයට, නාසයෙන් ගත් ගඳ සුවඳට, දිවෙන් ලැබූ රසයට, කයට ලැබුණු සුව පහසට හා මනසට පටිච්ච වූ ධම්මතාවයට යන සදොරටම අරමුණු වූ ආරම්මණයන්ට සිතින්ම තණ්හා වෙයි. මෙතැනදී කාම තන්හා, භව තණ්හා, විභව තණ්හා යනුවෙන් ද තුන් ආකාරයකම තණ්හාවන්ද සිතකම උපත ලබයි. මේ කුමන ආකාරයේ හෝ තණ්හා වීමක් සිතක උපත ලබන්නේ නම් එය ද පටිච්ච වීමේම ප්‍රතිඵලයකි. (හේතුං පටිච්ච සංභූතං) පටිච්ච වීමේ නියත ප්‍රතිඵලය "සං" බිහිවීමයි. සමුදය ශක්තියක් චිත්තසංථානයේ බිහිවීමයි. සංසාර ගමන දිගටම පවත්වාගෙන යාමට හා මතුවටත් දුක් නිර්මාණය කරදෙන්නට හේතුවන ශක්තිය සමුදය ශක්තියයි. මේ චක්‍රාකාර වූ ක්‍රියාකාරකම් හයෙන්ම විග්‍රහකර පෙන්වූයේ පටිච්ච වීමෙන් සමුදය බිහිවන ආකාරයයි.

මෙසේ චක්‍ර හයක් ලෙසින් ද, ආයතන හයකින්ම ක්‍රියාත්මක වී සිතකම උපත ලබන්නේ සමුදය ශක්තියකි. සමුදය යනු "සංභවං" යන්නයි. එනම් සංසාර ගමන පවත්වාගෙන දිගින් දිගටම යළි යළිත් උපත ලබන්නට මූලික හේතුව වන්නේ මේ කර්ම බීජ බිහිවීමයි. "සංභවං, සමුදය" යන පද වලින් ද පෙන්වා දුන්නේ යළි උපතක් ලබන්නටම හේතුවන කර්ම බීජ උපත ලබන ආකාරය පිළිබඳවයි. මේ ආකාරයට ඡඡක්ක සූත්‍රයේ මුල් කොටසෙන් විග්‍රහ කර පෙන්වා වදාළේ අවිද්‍යා මූලයෙන් පටිච්ච සමුප්පාද ධර්මය ක්‍රියාත්මක වන ආකාරය තිස්හය ආකාරයකින්ම පෙන්වා දීමයි. මේ විග්‍රහය සර්වසම්පූර්ණය. අවබෝධයට පහසුය. සරළ විග්‍රහයකි. තමන්ටම තමන්ගේම බඹයක් පමණ වූ ශරීර කුඩුව තුළින්ම මෙසේ ක්‍රියාත්මක වන බලවේග (මත්වීම්) දැන හඳුනාගන්නට පහසුවන ආකාරයෙන් කරන ලද විග්‍රහයකි.

ඉන්පසුව මේ සූත්‍රයෙහි දෙවන කොටසෙන් විග්‍රහ වන්නේ ත්‍රිලක්ඛණය පිළිබඳ මූලධර්මයන්ය. "චක්ඛුං අත්ථා වා චක්ඛුං අනත්ථාවා, රූපං අත්ථා වා අනත්ථා වා චක්ඛු විඤ්ඤාණං අත්ථාවා අනත්ථාවා, චක්ඛු සංඵස්ස අත්ථාවා අනත්ථාවා, චක්ඛු වේදනා අත්ථා වා අනත්ථාවා, චක්ඛු තණ්හා අත්ථාවා අනත්ථාවා'' යනාදී වශයෙන් කායයන් තිස්හයම මේ ආකාරයෙන්ම ද්වතාවයෙන්ම විග්‍රහ කිරීමයි. "චක්ඛුස්ස උප්පාදෝපි වයෝපි පඤ්ඤායති" යන ප්‍රකාශයෙහි "පඤ්ඤායති" යනු ප්‍රඥප්තියකි. සිතින්ම, මඤ්ඤතාවයෙන්ම පනවාගත් සිතුවිල්ලක්ම පමණී යන්නයි. ඇසෙන් දුටු රූපය නිසා සිතේ උපත ලැබූ මත්වීම ඒ මොහොතේ පටන්ම ඒ උපත ලැබූ ශක්තියද ගෙවී ගෙවී විනාශය කරාම යන බවත් එහි පනවා ගන්නට, මඤ්ඤතාවයෙන්, මමත්වයෙන්, අස්මිමානයෙන් "අත්ථාති" වශයෙන් ගන්නට යමක් නිශ්චිතව එහි පවතින්නේ නැති බවත් යථාපරිදි දැකගත් විට (යස්ස බෝ පන උප්පාදෝපි වයෝපි) එහි යථා තත්ත්වය ඇත්ත ස්වභාවය යථාභූත ඥාණ දර්ශනයෙන්ම දැකගත හැකි වෙයි. මේ අනුව "ඉච්චස්ස එවමාගතං හෝති" වෙයි. එනම් සිතේ උපන් කැමැත්තට බැඳීමෙන් සිදු වූ පටිච්චවීමෙන් නිදහස් වී සත්‍යය පිරිසිඳ දැකගනී. පිරි, අපිරි යන අන්ත දෙකෙන්ම මිදී කැමැත්තෙන්ද නිදහස්ව ඇත්ත ඇති සැටියෙන් දැකගත් විට "චක්ඛුං අනත්ථා, රූපං අනත්ථා චක්ඛු විඤ්ඤාණං අනත්ථා, සංඵස්ස අනත්ථා, වේදනා අනත්ථා, තණ්හා අනත්ථා වශයෙන් මේ ක්‍රියාවලියේ සත්‍යම වූ ස්වභාවයද දකී. "අත්ථ" යනු ආත්ම වාදය නොවේ. අනත්ථ යනු

අනාත්ම වාදයද නොවේ. උතුම් බුද්ධ ධර්මය හේතුඵලධර්ම විග්‍රහයක් මිස අන්තවාදී ආත්ම අනාත්ම වාදයන් විග්‍රහ කළ දහමක් නොවේ.

රූපය අත්ථ වශයෙන් දැක, ඊට තණ්හා වී, එය උපාදානය කර ගැනීමෙන් අනාථ බවට දුකට පත්වීමටද හේතුවන දෙයක් සිදුවූවා මිස හරයක්, සාරයක් මෙහි නැති බවද යථාපරිදි දකී. මේ අනත්ථ බව දැකීමයි. මේ විග්‍රහයේදී තිස්හය ආකාරයටම මෙසේ "අනත්ථ බව" විග්‍රහ කරදී ඇත. අනත්ථ බව අවබෝධ කරගත යුතු ධර්මයකි.

ඇසෙන් දකින රූපයකට පටිච්චවීම නිසාම ඒ රූපය දැකීමෙන් සිතේ වේදනාවක් උපත ලබයි නම් ඒ රූපය කෙරෙහි තණ්හාවක්ද උපදී. එවන් රූපයක් උපාදානය කර ගැනීමේ කැමැත්ත සිතින් නිශ්චිත කර ගන්නටම ක්‍රියාත්මක වීම එවන් පෘථග්ජන සිතක නියත හැසිරීම් ස්වභාවයයි. මෙවන් පෘථග්ජන සිතක නියත අවශ්‍යතාවයක් ද බිහිවෙයි. "නිච්ච, සුඛ, අත්ථ" යන තුන් පදවලින් ද විග්‍රහ කර පෙන්වූයේ මේ ලෝක ධර්මතාවයයි. මේ ආමිස සුවයයි. මේ නිච්ච බව, සුඛ බව, අත්ථ බව සිතක ක්‍රියාත්මකව පවතිනා තුරුම සංසාර පැවැත්මද දිගින් දිගටම පවත්වාගෙන යන්නටම සියලු ක්‍රියාකාරකම් ද (සබ්බ කාය) උපකාරී වෙයි. මේ ආමිස සැප හඹා යාමයි.

රූපය නිච්ච සේ, වේදනාව නිච්ච සේ, සංඥාව නිච්ච සේ, සංඛාරය නිච්ච සේ, විඤ්ඤාණය නිච්ච සේ, රූපය සුඛ සේ සුව සේ, වේදනාව සුඛ සේ සුව සේ, සංඥාව සුව සේ සුඛ සේ, සංඛාරයෝ සුඛ සේ සුව සේ, විඤ්ඤාණයෝ සුව සේ සුඛ සේ දකීද එවන් පුද්ගලයා දකින රූපය ද මඤ්ඤතාවයෙන්, මමත්ත්වයෙන් අත්ථ සේ දකී. වේදනාව මඤ්ඤතාවයෙන්, මමත්ත්වයෙන් අත්ථ සේ දකී. සංඥාව, සංඛාරය හා විඤ්ඤාණය ආදී වශයෙන් පංචස්කන්ධයම මඤ්ඤතාවයෙන්, මමත්ත්වයෙන් අත්ථ සේ දකී. අත්ථ සේ ගනී. අත්ථ යන්නෙහි තේරුම අස්මිමානයෙන් වැරදි සේ මැනීමයි. මෙය ආත්ම දෘෂ්ඨියට වඩා වෙනස් වූ බලවත් එකකි. ''ඒතං මම'', "ඒසෝ මේ හමස්මි, ඒ සෝමේ අත්ථාති" යනු මේ වැරදි සංසාර දෘෂ්ඨියයි. සක්කාය දෘෂ්ඨියයි. අස්මිමානයෙන් ගැනීමයි.

මේ ආකාරයට "මනෝ විඤ්ඤාණං අත්ථාති යෝ වදෙය්‍ය" මනෝ විඤ්ඤාණය අස්මිමානයෙන් මැනීම, මමත්ත්වයෙන් අත්ථ සේ ගැනීම වරදකි. මනෝ විඤ්ඤාණයක් උපත ලැබීමත්, වැයවී යාමත් සිතින්ම පනවාගත් පඤ්ඤප්තියක් පමණි. මේ සත්‍යය ධර්මතාවය යථාපරිදි යථාභූත ඥාණ දර්ශනයෙන් අවබෝධ කරගත් පසුව (ඉච්චස්ස එවමාගතං හෝති) මේ රූපය කෙරේ ඇති වූ කැමැත්ත සිතේ ඇති වූ මුළාවක් පමණක්ම බව දැක ඉන් මිදී නිදහස්වීම සඳහා "ඉති මනෝ අනත්ථා, ධම්මා අනත්ථා මනෝ විඤ්ඤාණං අනත්ථා" යන්න ද පසක් කොට අවබෝධ කර ගතහැකි වෙයි.

මේ අනුවම මනෝ සම්ඵස්ස, මනෝ සම්ඵස්ස වේදනා, සහ තණ්හා යනාදී සියලු චක්‍රාකාර ක්‍රියාකාරකම් ද සිතින්ම මවාගත් අස්මිමානයෙන් හා මඤ්ඤතාවයෙන්ම අත්ථ යැයි උපාදානය කරගත් දේවල් බව ද යථා පරිදිම දැක ගනී. එය උපාදානය කර ගැනීමෙන් අනාථ වන බවද යථා පරිදි දකී.

මේ අනුවම "ඉති මනෝ අනත්ථා, ධම්මා අනත්ථා, මනෝ විඤ්ඤාණං අනත්ථා, මනෝ සම්ඵස්සෝ අනත්ථා, වේදනා අනත්ථා, තණ්හා අනත්ථා" ආදී වශයෙන් යථාභූත ඥාණ දර්ශනය ද ලැබෙයි. මේ අනුව ඇත්ත ඇති සැටියෙන්ම දැකගනී. මෙසේ චක්ඛු, සෝත, ඝාණ, ජිව්හා, කාය හා මනෝ යනාදී ආයතන හය සම්බන්ධයෙන්ම උපත ලබන ශක්තිය මේ ආකාරයෙන්ම මෙතෙක් කල් "අත්ථ" යැයි අස්මිමානයෙන් ගත් සියල්ලම (සබ්බ කාය) "අනත්ථ" බව දැන් පසක් කොට දැක ගනී. අනත්ථ යනු අනාත්ම යන අදහස නොවේ. අනාථ වීම යන අර්ථයයි.

ඊළඟ පියවරේදී මෙම ඡ ඡක්ක සූත්‍රයේ විග්‍රහකර පෙන්වා වදාළේ "සක්කාය සමුදය ගාමිණී ප්‍රතිපදාව හා සක්කාය නිරෝධ ගාමිණී ප්‍රතිපදාව" නමැති ද්වතාවයයි. සංසාර ගමනට යළි යළිත් දිගටම බැඳ තබන, සංයෝජන දහයම උත්පාදනය කර දී, සකස් කර දී, දුක නිර්මාණය කරනු ලබන ප්‍රතිපදාව වන්නේ සක්කාය සමුදය ගාමිණී ප්‍රතිපදාවයි. "සං" උත්පාදනය වන්නේ සමුදය බිහිවී සංසාරයට බැඳෙන්නේ බඹයක් පමණ වූ මේ ත්‍රිජකයම කිළිටි කරන්නේ (සංකිළිට්ඨේන) මෙම "සක්කාය සමුදය ගාමිණී ප්‍රතිපදාව" අනුගමනය කිරීමෙනි. මේ නිසා මේ සමුදය, සං උපත ලබන ආකාරය යථාපරිදි තේරුම්ගෙන ඉන් මිදී නිදහස් විය යුතු බව තේරුම් ගත යුතුයි. සමුදය නිරෝධ කළයුතුය යන්න මෙහි තේරුමයි. මෙය ද "චක්ඛුං ඒතං මම, ඒසෝහමස්මි, එසෝ මේ අත්ථාති" රූපේ ඒතං මම, ඒසෝ හමස්මි, එසෝ මේ අත්ථාතී, චක්ඛු විඤ්ඤාණං ඒතං මම, එසෝ හමස්මි, එසෝ මේ අත්ථාති, චක්ඛු සම්ඵස්සං ඒතං මම, එසෝ හමස්මි, එසෝ මේ අත්ථාතී, වේදනාවන් හා තණ්හාව ද ඒතං මම, එසෝ මේ හමස්මි, එසෝ මේ අත්ථාති යන්න "සමනුප්පස්සති" කළ යුතුයි. "සමනුප්පස්සති" යනු මනසින් අනුපස්සනා කරමින් මෙතෙක් කල් "අත්ථ" වශයෙන් මමත්ත්වයෙන්, මඤ්ඤතාවයෙන් මම, මගේ, මගේ ආත්මය වශයෙන් ගැනීම වැරදි බව තේරුම්ගෙන, ඉන් නිදහස්වීමට අනත්ථ බව අවබෝධ කරගෙන සක්කාය සමුදය ගාමිණී මාර්ගයෙන් ඉවත් වී නිදහස් වීමයි.

මේ ආකාරයටම ඇස, කන, නාසය, දිව, කය හා මනස යනාදී ආයතන හයෙන්ම උපත ලබන සක්කාය සමුදය වන හැටි දැක ගත් පසුව ඒ පුද්ගලයා "ධම්මෝ සංදිට්ඨිකෝ" යන අවබෝධයද ලැබූ සක්කාය සමුදය ගාමිණී ප්‍රතිපදාව පිළිබඳව ද යථා පරිදිම අවබෝධය ලැබුවෙක් වෙයි. කෙළෙස් උපදින, දුක නිර්මාණය කර දෙන, යළි යළිත් සසර උපත ලබන්නටම හේතුවන මේ සක්කාය සමුදය ගාමිණී මාර්ගය වැරදි මාර්ගය බවත්, පසක් කොට අවබෝධකරගෙන ඒ වැරදි මාර්ගයෙන් ඉවත් විය යුතුය යන්න ද දැකගනී.

මෙහිදී පෙන්වා දුන් සක්කාය නිරෝධගාමිණී පටිපදාව ද මනා කොටම තේරුම් ගෙන අවබෝධ කරගත යුතු හා ප්‍රායෝගිකවම අනුගමනය කළයුතු ප්‍රතිපදාවයි. එනම් සමුදය නිරෝධ කිරීමේ ප්‍රතිපදාවයි. "චක්ඛුං නේතං මම, නෙසෝ හමස්මි, නමේසෝ අත්ථාති රූපේ නේතං මම, නෙසෝ හමස්මි, නමේසෝ අත්ථාති, වේදනා හා තණ්හා දෙකම ද නේතං මම, නෙසෝ හමස්මි, නමෙ සෝ අත්ථාති" ආදි වශයෙන් ආයතන හයෙන්ම කරුණු ලබන චක්‍රාකාර ක්‍රියාකාරකම් තිස්හයමත් මම යැයි ගැනීමට, මගේ යැයි ගැනීමට, මගේ ආත්ම යැයි ගැනීමට සුදුසු නොවන බව, උපාදානය කර ගැනීමට සුදුසු නොවන බව, තණ්හාවෙන් සුව වේදනාවක් හෝ අසුබ වේදනාවත් හෝ අදුක්ඛම අසුබ

වේදනාවක් ලෙස හෝ විඳවීමට සුදුසු නොවන බවත් යථාපරිදිම තේරුම් ගත යුතුය. "මම වෙමි" යන අන්තයද වැරදිය. "මම නොවෙමි" යන අනිත් අන්තය ද වැරදිය. ආත්ම වාදය ද, අනාත්ම වාදය ද, උච්ඡේද වාදය ද, සාස්වත වාදය ද යන සියල්ලම අන්තවාදී අදහස් නිවනට බාධාවන සංසාරයට යළි යළිත් බැඳ තබන බැමි බව මනාකොට අවබෝධ කරගත යුතුය.

මේ අනුව සක්කාය දැක්ම උපත ලබන සක්කාය සමුදය ගාමිණී මාර්ගයද , සක්කාය දැක්ම උපත නොලබන (අනුත්පාද වන) සක්කාය නිරෝධ ගාමිණී මාර්ග ප්‍රතිපදාව ද යන දෙකම යථාපරිදි අවබෝධ කරගැනීම ඊළඟ පියවරයි. මේ දෙකම මනාකොට, පසක් කොට තේරුම් ගත් අරිය ශ්‍රාවකයාට දුකෙන් මිදී නිදහස් වීමේ නිවැරදි (සම්මා) මාර්ගය ද යථාපරිදිම අවබෝධ වෙයි. එය සම්මා දැක්මයි. සම්මා දෘෂ්ඨියට පත්වීමේදී අත්හැරිය යුතු සක්කාය සමුදය ගාමිණී පටිපදාව ද, අනුගමනය කළයුතු සක්කාය නිරෝධ ගාමිණී පටිපදාව ද යන දෙකම දැකගනී. සක්කාය සමුදය ගාමිණී ප්‍රතිපදාව යථාපරිදි තේරුම්ගත් පුද්ගලයා චතුඅරිය සත්‍යයන් හතරෙන් මුල් දෙක එනම් දුක්ඛ අරිය සත්‍යය ද, දුක්ඛ සමුදය අරිය සත්‍යය ද අවබෝධ කරගනී. ඒවාගේම සක්කාය නිරෝධ ගාමිණී පටිපදාව යථා පරිදි අවබෝධ කරගත් අරිය ශ්‍රාවකයා දුක්ඛ නිරෝධය හා දුක්ඛ නිරෝධ ගාමිණී ප්‍රතිපදාව යනාදි වශයෙන් චතු අරිය සත්‍යයන්ම ප්‍රත්‍යක්ෂ කොට අවබෝධ කර ගනී.

මෙයද ආන පාන භාවනාවකි. "සං" උපත ලබන සමුදය බිහිවන සංඛාර ප්‍රහාණය කළ යුතුයි. එනම් රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කළ යුතුයි. "සං" නිරෝධ වන වීත රාගී, වීත ද්වේෂී, වීත මෝහී යහපත් සිතුවිලි ආශ්‍රය (ආන) කළ යුතුයි. නිරෝධ යනු නිර්උදා යන්නයි. අනුත්පාද යන්නයි.

ඊළඟ පියවරෙන්ද මේ පිළිබඳවම තවදුරටත් සම්පූර්ණ විග්‍රහයෙක්ම කරයි. මෙහිදීද අනුසය පිළිබඳව ද්වතාවයම විග්‍රහ කර පෙන්වයි. චක්ඛුංච පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං තිණ්ණං සංගති ඵස්සෝ, ඵස්ස පච්චයා උප්පජ්ජති වේදයිතං, සුඛංවා, දුක්ඛං වා, අදුක්ඛමසුඛං වා.

01. සෝ සුඛාය වේදනාය ඵුට්ඨෝ සමානෝ අභිනන්දති, අභිවදති, අජ්ඣෝසාය තිට්ඨති. (සුව වේදනාවට ආස්වාදයට ඇලෙයි.) "තස්ස රාගානුසයෝ අනුසේති" (රාග අනුසය සිතක උපදින ආකාරය විග්‍රහ කර ඇත.)

02. සෝ දුක්ඛාය වේදනාය ඵුට්ඨෝ සමානෝ, සෝචති, කිලමති, පරිදේවති උරත්තාලිංකන්‍දති, සංමෝහං ආපජ්ජති. (අප්‍රිය වේදනාවෙන් ගැටෙයි.) "තස්ස පටිඝානුසයෝ අනුසේති" (ද්වේෂය සිතක උපත ලබන ආකාරයයි.)

03. අදුක්ඛමසුඛාය වේදනාය ඵුට්ඨෝ සමානෝ වේදනාය සමුදයඤ්ච, අත්ථංගමඤ්ච, අස්සාදංච, ආදීනවඤ්ච, නිස්සරණඤ්ච, යථාභූතං නප්පජානාති (යථා භූත ඥාණයෙන්, ඇත්ත සත්‍යය ඇති සැටියෙන්

දැක ගැනීමට නොහැකි වෙයි.) තස්ස අවිජ්ඡා අනුසයෝ අනුසේති (අවිද්‍යා අනුසය සිතක උපත ලබයි.)

මේ අනුව සිතක අවිද්‍යා අනුසය උපත ලබන්නේ අදුක්ඛම අසුඛ දෙක අතර මැන මැන සිතින් විඳවීමෙනි. පටිච්ච සමුප්පාද ක්‍රියාවලියම මේ ආකාරයෙන් චක්ඛුං, සෝතං, ඝානං, ජිව්හා, කායං, මනෝ ආදි ආයතන හයෙන්ම අවිද්‍යා මූලයෙන් ක්‍රියාත්මක වීමේ ප්‍රතිඵලය වන්නේ සිතක් තුළ නිරන්තරයෙන්ම ප්‍රිය දේට ඇලෙන රාගානුසය, අප්‍රිය දේට පටිසවන (ගැටෙන) පටිඝානුසය හා මානයෙන්, මෝහයෙන් මුළාවන්නට හේතුවන අවිජ්ජානුසය (කෙළෙස්) උත්පාදනය වීමයි. මෙසේ ක්‍රියාත්මක වන සිතක් තුළ අවිජ්ජා සහිත හේතුඵල පරම්පරාවක් ක්‍රියාත්මක වන නිසාම දුකින් මිදී නිදහස් වීමේ මාර්ගය නිබ්බානගාමී මාර්ගය ආවරණය කර වසා දමයි. මේ අයුරු අවිද්‍යාවෙන්, පංචකාම නීවරණ ධර්මවලින් නිවන් මාර්ගයම වැසෙයි. පංචකාම නීවරණ ධර්මයන්ම සිතක උපත ලබන්නේ සක්කාය සමුදය ගාමිණී මාර්ගය ක්‍රියාත්මක වීමේ හේතුවෙනි.

මේ විග්‍රහකර පෙන්වා දුන් ආකාරය තමන්ගේ මනසින්ම මෙනෙහි කර තමා තුළින්ම දැකගෙන සංසාර ගමන දිගින් දිගටම නිර්මාණය වන්නට මුල් වන, නිදාන වන, ප්‍රත්‍ය වන හේතු ද තේරුම් ගත යුතුමයි. සංසාර ගමන යළි යළිත් නිර්මාණය කරන්නේම රාග අනුසය, පටිඝානුසය හා අවිජ්ජානුසයෝයි.

පටිච්චසමුප්පාදය (සං උදය) නිරෝධ කරන, කුණු සළාහැර සිත ශුද්ධ පවිත්‍ර කරන, කුසලමූල පටිච්චසමුප්පාද ක්‍රියාවලිය ද මේ ධර්මය අසා අවබෝධ කරගත යුතු දෙයකි. එය ආශ්‍රය කළයුතු "ආන" ධර්මයයි. පෙර පරිදිම මෙහිදීද හේතුඵල විග්‍රහයක් කරයි.

"චක්ඛුංච පටිච්ච රූපේච උප්පජ්ජති වේදයිතං
සුඛං වා, දුක්ඛංවා, අදුක්ඛමසුඛංවා." යන විග්‍රහය අවබෝධ කරගත යුතු ධර්මයයි.
මේ බව යථා පරිදි අවබෝධකරගත් පසුව අරිය ශ්‍රාවකයා,

01. "සෝ සුඛාය වේදනාය ඵුට්ඨෝ සමානෝ, නාභිනන්දති, නාභිවදති, නජ්ඣෝසාය තිට්ඨති." (අනත්ථ සේ දකී, නිසරු බව දකී) "තස්ස රාගානුසයෝ නානුසේති" (සිතෙහි රාග අනුසය නොඋපදියි) සුව, සුඛසේ මෙතෙක් කල් සිතූ දේ මායාවක්ම පමණක් බව අනාථ වන්නටම හේතුවන බව දැක විඳවීමෙන් මිදී නිදහස් වෙයි.

02. සෝ දුක්ඛාය වේදනාය ඵුට්ඨෝ සමානෝ, න සෝචති, න කිලමති, න පරිදේවති, න උරත්තාලිංකන්‍දති" (අනත්ථසේ දකී) සම්මෝහං ආපජ්ජති. (ද්වේෂය, වෛරය සිතෙහි නොඋපදියි) "තස්ස පටිඝානුසයෝ නානුසේති" (පටිඝ අනුසය සිතේ නොඋපදී) දුක යනු විඳව විඳවා සිටිය යුතු දෙයක් නොවන බවත් එයද සිතේම උපත ලැබූ මායාවක් බවත් දැක, විඳවීම නවතා දමයි.)

03. අදුක්ඛමසුඛාය වේදනාය ඵුට්ඨෝ සමානෝ තස්සා වේදනාය සමුදයඤ්ච,

අත්ථංගමඤ්ච, අස්සාදඤච, ආදීනවඤ්ච, නිස්සරණඤ්ච, යථාභූතං පජානාති" (සත්‍යය දකී) තස්ස අවිජ්ජානුසයෝ නානුසේති (සිතෙහි අවිද්‍යා අනුසය නොඋපදියි.)

මේ ආකාරයටම මෙම කුසලමූල පටිච්චසමුප්පාද ක්‍රියාවලියද චක්ඛුං, සෝතං, ඝානං, ජිව්හා, කායං, මනෝ යන ආයතන හයෙන්ම වේදනා උපදින උපදින මොහොතේම නිරෝධ කරමින්, සුව වේදනාවට නොඇලී, දුක් වේදනාවට නොගැටී, අදුක්ඛමසුඛ වේදනාවට ද මුළානොවී, ඉවසීමෙන් විමසා බලා, එහි යථා තත්ත්වය දැන හඳුනාගෙන එයම උපාදානය වන්නට මුල්වන, නිදානවන හේතුවද සිතින් වේදනාවක් විඳවීමේ කැමැත්තම බවද තේරුම් ගෙන සියලු සංඛාර උපේක්ඛා සිතින් දැක ගැනීමෙන්ම රාගානුසය නිරෝධ කරයි. නොඋපදී. රාග අනුසය සිතින් පහව යයි. පටිඝානුසයට නොගැටෙයි. (පටිවිනෝදෙත්වා) අවිජ්ජා අනුසය සහමුළින්ම සිතින් ඉවත් වෙයි. (සමූහනිත්වා) මේ අනුව "අවිජ්ජං පහාය, විජ්ජං උප්පාදෙත්වා". පැවැත්ම, ජීවත්වීම පිළිබඳව පරම සත්‍යය විනිවිද බලා දැක ගැනීමේ ශක්තිය තමන්ටම ලැබෙයි. "සංසාරයි" කියා මෙතුවක්කල් දුකම නිර්මාණය කරගත්තේ තමන්ගේම නොදන්නාකම නිසාම බවත් යථා පරිදි දැක ගෙන ඉහාත්මයේදීම, මේ ජීවිත කාලය තුළදීම, සියලු දුක් නිමාකර, අලුතින් දුක උපදවන්නට මුල් වූ සියලු හේතුන්ද ප්‍රහාණය කර, කෙළෙස් මුල් උදුරා දමා නිදහස් වෙයි. (ඨාන මේතං විජ්ජති)

මේ ධර්මතාවය (කුසලමූල පටිච්චසමුප්පාද ධර්මයයි.) තම සිතින්ම මේ සත්‍යය පසක් කොට දැකගත් අරිය ශ්‍රාවකයා (ඒවං පස්සං) චක්ඛුස්මිං නිබ්බින්දති, රූපේසු නිබ්බින්දති, චක්ඛු විඤ්ඤාණේ නිබ්බින්දති, චක්ඛු සංඵස්සයේ නිබ්බින්දති, වේදනාය නිබ්බින්දති, තණ්හාය නිබ්බින්දති, සෝත, ඝාන, ජිව්හා, කාය, මනෝ ආදී චක්‍රයන් හයෙහිමත්

නිබ්බින්දති, (නොබැඳෙති) නිබ්බින්දති යනු කළ කිරීම නොවේ.
නිබ්බින්දං විරජ්ජති, (නොඇලෙති, නොගැටෙති)
විරාගා විමුච්චති (මුළාවෙන් මිදී නිදහස් වෙති)
විමුත්තස්මිං, විමුත්තමිති, ඥාණං හෝති (ප්‍රඥා විමුක්තියට පත්වේ.)

නිබ්බින්දති යනු නොබැඳීමයි. සම්බන්ධ නොවීමයි. නොගැටීමයි. මුළා නොවීමයි. නිබ්බින්දති යන සිතින් නොබැඳීම නිසා සිතෙහි මතුවන අභිනන්දයෙන් සිත මිදී නිදහස් වෙයි. සැප විඳීමේ අපේක්ෂාවෙන් සිත මිදෙයි. "නිබ්බින්දති" යන පදය "කළකිරීම" ලෙසින් ත්‍රිපිටක සිංහල පරිවර්තනයේ වැරදි ලෙසින් සිංහලයට පරිවර්තනය කර ඇත. කළකිරීම ද්වේෂය නිසා සිතක ඇතිවන ගතියකි. නොබැඳීම, නොඇලීම නිසා සිත රාගයෙන් වෙන් වෙයි. (විරජ්ජති) රාගයෙන් වෙන්වී, විරාග වූ සිත සහමුළින්ම විමුක්තියට පත්වෙයි. (විමුච්චති) මෙසේ රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් මිදී නිදහස්ව කෙළෙස් වලින් විමුක්ත වූ සිත පිරිසිදු තත්ත්වයටම පත්වෙයි. මේ අනුව යථාභූත ඥාණ දර්ශනය හා විමුක්ති ඥාණ දර්ශනය නම් වූ බුද්ධ ඥාණයන්ද සිතේහි බලගැන්වෙයි. හය ආකාර වූ පිරිසිදුවීමක්, විමුක්තියක් මේ අනුවම ප්‍රත්‍යක්ෂකර ගෙන අරහත් ඵලයටම පත්වෙයි.

ඛීණා ජාති, වුසිතං බ්‍රහ්මචරියං, කතං කරණීයං, නාපරං ඉත්ථත්තායාති, පජානාති යන සියලු අරහත් ගුණ අංගයන්ගෙන් සමන්විත වෙයි.

උපතක් ලබන්නට හේතුවන සියලු කර්ම බීජ සිඳ දමා කෙළෙස් අවසන් කළේය. (ඛීණා ජාති) රාග, ද්වේෂ පමණක් නොව මෝහය හා මානය ද සහමුලින්ම සිඳ දමා, බ්‍රහ්මත්වයට ඇලුම් කළ අරූපී සිතින් ද මිදී නිදහස් විය. (වුසිතං බ්‍රහ්ම චරියං) කළයුතු සියල්ල නිමා කර නිවනට අවශ්‍ය සියලු අංගයන් ප්‍රත්‍යක්ෂව දැක සත්‍යාවබෝධය සම්පූර්ණ කර ගත්තේය. (කතං කරණීයං) මතු දුක නිර්මාණය කරන්නට හේතුවන ආයතනික රටාව ද සහමුලින්ම සිතින් උදුරා දැමීය. (නාපරං) පරම සත්‍යය යථාපරිදි අවබෝධ කරගන්නා ලදී. සම්මා විමුක්තියටම සිත පත්වෙන බව පසක් කොට දැකගති. (ඉත්ථත්තායාති පජානාති)

මෙම ඡ ඡක්ක සූත්‍ර ධර්ම දේශණාවෙන් අංග සම්පූර්ණ වූ ද, පරිපූර්ණ වූ ද සරළ නිවන් මාර්ගයම පැහැදිළිව, පිරිසිදුව විග්‍රහ කරදී ඇත. ප්‍රායෝගිකවම තමන්ම තමන්ටම කරගත යුතු වැඩපිළිවෙළක්, ප්‍රතිපදාවක් මෙහිදී විග්‍රහ කර දී ඇත.

මෙම ඡ ඡක්ක සූත්‍ර දේශණාවේදී කරුණු විග්‍රහ කිරීමට උපමා කථා, උදාහරණ කථා, පරිවාර කථා හෝ එවැනි කිසිවක්ම යොදාගෙන නැත. පරමාර්ථ ධර්මයම, අභිධර්මයම, පටිච්චසමුප්පාද ධර්මයම, චතු අරිය සත්‍යය ධර්මයම මෙහිදී සරළව විග්‍රහ කර පෙන්වා දී ඇත. එනම් ප්‍රායෝගිකවම අනුගමනය කළ යුතු කෙටිම සරළම මාර්ගය පෙන්වා දී ඇත.

මෙහිදී භාවිතා කර ඇති ක්‍රමවේදය වන්නේ ද්වතාව ධර්මය විග්‍රහ කරමින් පටිච්ච සමුප්පාද ධර්මයම විග්‍රහ කර දීමයි. මෙම සූත්‍ර ධර්මය කියවාගෙන යන කෙනෙකුට අවබෝධ කරගත හැකි අවබෝධකර ගතයුතු වැදගත්ම දෙයක් නම් මෙහිදී ධ්‍යානයන් ගැන හෝ සමාධි ගැන හෝ භාවනා ගැන හෝ කිසිවක් ප්‍රකාශ කර නැත යන්නයි. අද සම්මත භාවනා මධ්‍යස්ථානවල කියාදෙන ආකාරයේ ධ්‍යානයන් ලැබීමේ අවශ්‍යතාවයකින් තොරවම සතර මග සතර ඵලයන්ම ලබා ගන්නට මෙම සරළ ක්‍රමය නියත වශයෙන්ම උපකාර වන බව පැහැදිළිවම හා පිරිසිදුවම සහතික කර පෙන්වා දීම මෙහි විශේෂත්වයයි.

මෙම සූත්‍රයේ අවසානම ඡේදයේ පෙන්වාදී ඇති පරිදි මේ සූත්‍ර ධර්මය ශ්‍රවණය කළ භික්ඛුන්ගෙන් සැට (60) නමක් එතැනදීම (සට්ඨීමත්තානං භික්ඛූනං) අරහත් තත්ත්වයටම පත් වූ බවද මෙහි පැහැදිළිවම ප්‍රකාශ කර දක්වා ඇත. (අනුපාදාය ආසවෙහි චිත්තානි විමුච්චිංසුති) පසු කලෙකදීද මේ හෙළබිම තුළදීම මේ උතුම් සූත්‍ර ධර්මය හෙළ බසින් හෙළ අටුවා ලෙසින් විග්‍රහ කරදීමෙන් ද අරහතුන්වහන්සේලා බිහි වූ බව "දහමට සරිකොට හෙළුවෙන් පෙරකී නිවනට සපැමිණි සඟසැට නමකි" යනුවෙන් ලෝවැඩ සඟරාවේ එන කවියෙන් ද පැහැදිළි කර දී ඇත.

මේ අතරම අපේ පැරණි බෞද්ධ ඉතිහාස කථාවලට අනුව මලියදේව මහඅරහතුන් වහන්සේ අරහත් තත්ත්වයට - අරහත් ඵලයටම පත්වූයේ ද, මෙම උතුම් ඡ ඡක්ක සූත්‍ර

ධර්ම දේශණාව පවත්වන අවස්ථාවේදීමය. මේ නිසා මෙවන් උතුම් වූ ධර්ම දේශණාවක් නිවැරදිව දේශණා කිරීමෙන් පවා අරහත් මගඵලයට පත්විය හැකි බවද මේ අනුවම පසක් කොට දැනගත යුතුය.

අද වන විට මෙවන් උතුම් සූත්‍ර ධර්මයන් භාවිතයෙන් තොරව අභාවයට පත්වන්නටත් සමහර විටකදී සම්මත ධර්ම දේශණා ලෙසින් පමණක්ම භාවිතයට ගෙන පදපරම විග්‍රහයක් ලෙසින් ඉදිරිපත් කරන්නටත් හේතු වූ මූලිකම කරුණ නම් "හේතුඵල ධර්මය නම් වූ උතුම් ''පටිච්ච සමුප්පාද ධර්මය" වැරදි ආකාරයෙන් විග්‍රහ කර කියාදීමයි. පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයෙහි එන තිපරිවට්ටයම දේශණා කරන්නට නොදැනීමයි. දේශණා නොකිරීමයි.

මේ සූත්‍ර ධර්මයෙහි එන වැදගත්ම පදයක් වන "පටිච්ච" ("චක්ඛුංච පටිච්ච රූපේච" සෝතංච පටිච්ච සද්දංච" ආදී වශයෙන්) විග්‍රහකළ පටිච්ච වීමේ ක්‍රියාවලිය ත්‍රිපිටකය සිංහලයට පරිවර්තනය කිරීමේදී සහමුලින්ම "පටිච්ච" යන පදය අමතක කර දමා, එය නොවැදගත් පදයක් ලෙසින් අතහැර දමා ඇත. මෙහිදී ත්‍රිපිටක පරිවර්තකයා විසින් පරිවර්තනයේදී යොදාගෙන ඇති සිංහල පදවැල් ගැන විමසිලිමත්ව බලන්න. ("ඇස ද රූපායතනය ද නිසා චක්ෂුර් විඥ්ඥාණය උපදින්නේය. කනද ශබ්දායතනය ද නිසා ශ්‍රෝත විඥ්ඥාණය උපදින්නේය.) මෙම පරිවර්තනයේදී සහමුලින්ම "පටිච්ච"වීම යන පදය අමතක කර දමා, අතහැර ඇති අතරම "චක්ඛුංච" යන පදය ද වැරදියට "ඇස" යනුවෙන්, සෝතංච යන පදය "කන" යනුවෙන්, ඝානංච යන පදය"නාසය" යනුවෙන්, ජිව්හාච යන පදය "දිව" යනුවෙන්, "කායංච" යන පදය "කය" යනුවෙන්, "මනංච" යන පදය "මන" යනුවෙන් ආදී ලෙසින් වැරදියටම සිංහලයට පරිවර්තනය කර ඇත. චක්ඛු - චක්ඛුංච නොවේ, චක්ඛුංච - චක්ඛු නොවේ යනාදී වශයෙන් විභංගප්‍රකරණයේ මේ වෙනස පැහැදිළිවම විග්‍රහ කරදී ඇත. මේ පද දෙක දෙකකි. චක්ඛු යනු ඇස යන්නයි. "චක්ඛුංච" යනු ඇසෙහි උපත ලබන යම් ක්‍රියාකාරී ශක්තියක් හැදින් වූ පදයකි. මේ ආකාරයට ආයතන හයෙන්ම උපත ලබන ශක්තිය මෙහිදී විග්‍රහකර ඇත. මේ ශක්තිය උපත ලබන්නේ "පටිච්ච" වීමේ ඒකායන හේතුවෙනි. මේ ශක්තිය විඥ්ඥාණ ශක්තියයි. සමුදය ශක්තියයි.

"චක්ඛුංච පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඥ්ඥාණං
චක්ඛුංච නපටිච්ච රූපේච අනුප්පාදෝ නිබ්බානං"

මේ විග්‍රහයේදී පෙන්වා වදාළ "පටිච්ච හා න පටිච්ච" යන ද්වතාව වෙන්කර තේරුම් නොගත් ත්‍රිපිටක පරිවර්තකයා ඇස, කන, නාසය, දිව, කය, මන ගැන මිස මේ ඉන්ද්‍රියයන්ගෙන් ශක්තියක් උපත ලබා ඒවා ආයතනයන් බවට පත්වීමේදී ලබන රත්වීම, මත්වීම ගැන හෝ ගිනි ගන්නා ස්වභාවය ගැන හෝ සංඛාර ශක්තිය ගැන හෝ දැනුමක් අවබෝධයක් නැතිවම මේ උතුම් ධර්මය සිංහල භාෂාවට පරිවර්තනය කරමින් පිරිසිදු නිවන් මග අවුරා වසා දමා ඇත යන්නද පෙන්වා දිය යුතුමය.

ඇස, කන ආදී වූ ඉන්ද්‍රියයන් හයම පාවිච්චි නොකර භාවිතා නොකර අරහතුන් වහන්සේට ද පිරිණිවන්පානා තුරුම ජීවත් විය නොහැකිය. ඇසෙන් රූපයක් බැලීම

වරදක් නොවේ. ඇසෙන් බලන රූපයට මත් වීමෙන්, අසංවර බවට පත්වෙන්නේ පටිච්ච වීම නමැති හේතුව නිසාමය. "පටිච්ච" වීමේ නියත ප්‍රතිඵලය (සං උත්පාදවීම) සමුදය බිහිවීමයි. කෙළෙස් උපදින්නට හේතුවන්නේ ඇස, කන ආදී ඉන්ද්‍රියයන්ට රූප, ශබ්ද ආදිය පටිච්චවීමේ ක්‍රියාවලිය නිසයි. මේ නිසා පටිච්චසමුප්පාද ක්‍රියාවලිය හේතුඵල ධර්මය පිළිබඳව කිසිම දැනීමක් හෝ අවබෝධයක් හෝ නැතිවම සිදු කරන ලද මේ ත්‍රිපිටක සිංහල පරිවර්තනය නිසා උතුම් බුද්ධ ධර්මයම විකෘති කිරීමක් කර ඇත.

මාගධී බසින් දේශණා කරන ලද පෙළ දහම නමින් අද හඳුන්වන මේ උතුම් බුද්ධ භාෂිතය පදපරම ලෙසින් - මාගධී පදයට සිංහල පදයක් ලෙසින් - පදගත පරිවර්තනයක් කිරීම සුදුසු නොවන බව බුදුපියාණන්වහන්සේම බොහෝ තැන්වල පෙන්වා වදාරා ඇත. ගෝතම බුදුපියාණන් ජීවත් වූ යුගයේදීම මේ මාගධී බුද්ධ භාෂිතයට හෙළ අටුවා ලියා ලේඛණ ගතකර ඒවා පවත්වාගෙන ආවේ මේ හේතුව නිසාය. අනුරාධපුර යුගය පටන් මහනුවර යුගය දක්වාමත් මාගධී බුද්ධ භාෂිතය පදගත ලෙසින් පදපරම ලෙසින් සිංහල භාෂාවට පරිවර්තනය නොකළේ මේ හේතුව නිසාමය. ඒ වෙනුවට කළේ අටුවා, ටීකා, ටිප්පනි ලියා පළ කිරීමයි. බුද්ධඝෝෂ හාමුදුරුවෝද ත්‍රිපිටකය පරිවර්තනය කරන්නට ගියේ නැත. ඒ හිමියන් පාළියට පරිවර්තනය කළේ එදා ප්‍රචලිතව පැවති හෙළ අටුවා පොත් සමූහයක්ම පමණි.

එතෙක් කල් මාගධී බසින් පමණක් පවත්වාගෙන ආ පිරිසිදු ත්‍රිපිටක ධර්මය 1884 පමණ ජේම්ස් ප්‍රින්සස්, ජෝර්ජ් ටර්නර් යන ඉංග්‍රීසි ජාතික මහත්වරුන් හා වෙනත් සුදු මහත්වරුන් විසින් ඉංග්‍රීසියටත්, ජර්මන් බසටත් පසුව 1901 වර්ෂයේදී පමණ සිංහලයටත් පරිවර්තනය කරන ලද්දේ පෘථග්ජන මිනිසුන් විසිනි. ඒ පදගත පරිවර්තනයන් ලෙසිනි. එක මාගධී පදයකට ගැළපෙන සේ තෝරාගත් එක සිංහල පදයක් යොදාගෙන බුද්ධ භාෂිතය පරිවර්තනය කිරීම වැරදිය. 1954 වර්ෂයේදී රජයෙන් පත් කරන ලද ත්‍රිපිටක පරිවර්තන මණ්ඩලයද මේ උතුම් බුද්ධ භාෂිතය සිංහලයට පරිවර්තනය කිරීමේදී මේ පදගත පරිවර්තන ක්‍රමවේදයම භාවිතා කර ඇති අතර ඔවුන් බොහෝ විටම බුද්ධ භාෂිතයට කිසිසේත්ම නොගැළපෙන ශෘංගාරාත්මක සංස්කෘත භාෂාවේ වචන සිංහල වචන වෙනුවට භාවිතා කරමින් කරන ලද පරිවර්තනය නිසා ද මේ උතුම් ධර්මයේ අර්ථයන් විකෘති විය.

මේ උතුම් ත්‍රිපිටක ධර්ම දේශණාව (ඡ ඡක්ක සූත්‍රය) සිංහල භාෂාවට පරිවර්තනය කිරීමේදී මෙහි එන ඉතාම වැදගත් මාගධී පදයන් කිහිපයක්ම පදපරම ලෙස පදගත අර්ථයෙන් වැරදියට සිංහල බසට පරිවර්තනය කර පෙන්වා දී ඇත. මේ මාගධී පදවල අර්ථය මෙසේ නිවන් මඟට උපකාරවන සේ නිවැරදිව පෙන්වා දෙනු කැමැත්තෙමි.

01. "භික්ඛු" යන පදය "මහණෙනි" යනු වැරදි පරිවර්තනයකි. එදා භික්ඛූන් යනුවෙන් ආමන්ත්‍රණය කළේ මහණ, මෙහෙණි, උපාසක, උපාසිකා යන සිවුවනක් පිරිසටය. භව බය කරන්නට ඇප කැපවී ක්‍රියා කරන පිරිසටය. (අංගුත්තර නිකාය)

02. "කිඤ්චිත්තං පටිච්ච වුත්තං - ඉදමේතං පටිච්ච වුත්තං" යනුවෙන් හය අවස්ථාවකදීම යළි යළිත් අවධාරණයෙන්ම විග්‍රහ කරන ලද "පටිච්ච" යන පදය විග්‍රහ නොකර අත්හැර දමා මුළු ධර්ම දේශණාවෙහිම මූල හේතුව සහමුළින්ම අතහැර දමා ඇත. "පටිච්ච" යනු යමෙකුගේ සිතක ඇතිවන මත්වීමත්, රත්වීමත් නිසා සිතකම උපත ලබන කැමැත්තේ තුන් ආකාරයම විග්‍රහ කරන්නට යොදාගත් උපකාර කරගත් පදයයි. ප්‍රිය දේට ඇලීම පටිච්චවීමකි. ඒ අනුව සිතක රාගය උපදී. අප්‍රිය දේට ගැටීම ද "පටිච්ච" වීමකි. සිතක ද්වේෂය උපත ලබන්නේ මේ පටිසය නිසාය. ප්‍රිය අප්‍රිය දේ අතර මුළාවීම ද වැරදියට මැනීමයි. (අදුක්ඛම අසුඛ බව) පටිච්ච වීමකි. මෝහය උපත ලබන්නේ මේ සත්‍යය නොදන්නා නිසාය. (නප්පජානාති)

03. අත්ථ, අත්ථාති යන මාගධී පද දෙකම "ආත්ම" යන අර්ථයෙන් භාවිතා කර වේද ආගමේ, ශිව ආගමේ එන ආත්මවාදයක් බුදු දහමට ද ආරෝපණය කර ඇත. මෙය වැරදිය. අත්ථ, අත්ථාති යන බුද්ධ භාෂිතයේ එන උතුම් පදයන් මඤ්ඤතාවය, මමත්වය, අස්මිමානය යන අර්ථය විග්‍රහ කරන්නට යොදා ගත්හ. පංචස්කන්ධයම අස්මිමානයෙන්, මඤ්ඤතාවයෙන් මම, මගේ, යැයි ගැනීම අත්ථ සේ ගැනීමයි. මෙය ආත්මවාදය යන්නට වඩා බොහෝ වෙනස්ය. "අත්ථ" යන පදයේ නිවැරදි අර්ථය තේරුම් ගන්නට නිච්ච, සුඛ යන පදවල ද අර්ථය තේරුම්ගත යුතුය. යමක් නිච්ච නම් එය සුවයකි. යමක් නිච්ච නම් සුව නම් ඒ සුවය අස්මිමානයෙන් ගැනීම නිසා "අත්ථ" වෙයි.

04. අනත්ථ, අනත්ථා යන පද දෙකම ද අනාත්ම වාදය ලෙසින් පරිවර්තනය කර තිබීම වැරදිය. අනත්ථ, අනත්ථා යන පද දෙකෙන්ම පෙන්වා විග්‍රහකර වදාළේ සංසාරයේ අනාථ වන බව, අතරමං වන බව, මංමුළාවන බවයි. සිතේ මතු වූ කැමැත්තට අනුව යමක් නිච්ච සේ, සුඛ සේ, අත්ථ සේ පවත්වන්නට, නවත්වන්නට නොහැකි වීම නිසා පුද්ගලයා අනාථ බවට පත් වෙයි. නාථ තත්ත්වයට පත් නොවන බවයි. මේ නිසා මෙයින් ප්‍රකාශ කළේ නාථ ධර්මය හා අනාථ ධර්මය යන ද්වතාව තේරුම් ගත යුතු බවයි.

05. "අත්ථා මේ උප්පජ්ජති ච චේති චාති ඉච්චස්ස ඒවමාගතං හෝති" යන පද පෙළම හය වරක්ම හය අවස්ථාවකදීම වැරදි ලෙසින් අර්ථ දක්වා පරිවර්තනය කර ඇත. "මගේ ආත්මය උපදින්නේ යැයි යමෙක් කියා නම් එය නොයෙදෙයි." යනුවෙන් මෙය සිංහලයට පරිවර්තනය කර ඇත. මෙය මම යැයි, මගේ යැයි, මගේ ආත්ම යැයි ගැනීමට සුදුසු නොවන බව යථාපරිදි අවබෝධ කරගෙන මෙතෙක් සිතේ පැවති කැමැත්තෙන් (ඉච්චස්ස) සහමුළින් මිදී නිදහස් වන්නේය, (ඒවමාගතං හෝති) යනුවෙන් නිවැරදි විය යුතුය. "නොයෙදෙයි" කියා පරිවර්තනය කිරීම අනියමාර්ථයෙන්, අනවබෝධයෙන් යොදාගත් යෙදුමකි.

06. "ඒතං මම, එසෝ හමස්මි එසෝ මේ අත්ථාති" යන පද පේළියත් මෙහි ද්වතාව

අර්ථය දක්වන "නේතං මම, නෙසෝහමස්මි, න මේ සෝ අත්ථාති" යන පද පේළි දෙකමත්, "මම වෙමි, මගේ වෙමි, මාගේ ආත්මය වෙමි" යනුවෙන් සහ "මම නොවේ, මාගේ නොවේ, මාගේ ආත්මය නොවේ" යන වැරදි අර්ථයකින් ආත්මවාදයට, අනාත්මවාදයට හා උච්ඡේදවාදයට සාස්වත වාදයට අදාළ පරිදි වැරදියට පරිවර්තනය කර ඇත. බුදු දහම කිසිසේත්ම ආත්මවාදයක් හෝ අනාත්මවාදයක් හෝ නොවේ. හේතුඵල ධර්මයම පදනම් කර හේතුඵල පරම්පරාවක් උපත ලබන (සමුදය ධම්මාවා) හා හේතුඵල පරම්පරාවක් ක්‍රියාත්මකවීම නිසාම උපතක්, පැවැත්මක් යළි යළිත් (පුනබ්බවෝති) බිහිවන බව ප්‍රකාශ කරන ලද ධර්මයකි. මේ අනුව මෙහිදී භාවිතා කරන ලද "මම වෙමි" යන්න වැරදි මතයකි. එයද අල්ලා ගැනීමකි. ''මම නොවෙමි'' යන්න ද වැරදි මතයකි. අල්ලා ගැනීමකි. එහි නිවැරදි පරිවර්තනය විය යුත්තේ පංචස්කන්ධයම මම යැයි ගැනීමට, මගේ යැයි ගැනීමට, මගේ ආත්ම යැයි ගැනීමට සුදුසු නොවන බව, උපාදානය කරගැනීමට සුදුසු නොවන බව යථාපරිදි අවබෝධ කරගත යුතුය යන්නයි.

07. "චක්ඛුංච පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං" යන්න "ඇසත්, රූපයත් නිසා චක්ෂුර් විඤ්ඤාණය උපදී" යනුවෙන් ආයතන හයේදීම තිස්හය අවස්ථාවකදීම වැරදියට පරිවර්තනය කර ඇත. චක්ඛු යනු ඇස යන්නයි. චක්ඛුංච යනු ඇස නොවේ. ඇසෙන් හටගන්නා රත්වීමේ, මත්වීමේ, ගිනිගන්නා, අසංවර ක්‍රියාකාරීත්වය පෙන්වා දීමට භාවිතා කළ පදය "චක්ඛුංච" යනුයි. පටිච්ච වන්නේ මේ ශක්තිය නිසාමය. මේ නිසා මේ පරිවර්තනය ඉතාමත්ම වැරදි ලෙසින් සිංහලට පරිවර්තනය කර ඇත.

08. අවසාන කොටසේ එන "චක්ඛුස්මිං නිබ්බින්‍දති, රූපේ සු නිබ්බින්‍දති" ආදී වශයෙන් තිස් හය අවස්ථාවකදීම නිබ්බින්දති යනුවෙන් පෙන්වා වදාළ ධර්මතාවය චක්ෂුයෙහි කළකිරෙයි. රූපයෙහි කළකිරෙයි, ආදී වශයෙන් තිස්හය අවස්ථාවකදීම වැරදියට කළකිරීම ලෙසින් පරිවර්තනය කර ඇත. කළකිරීම යන්න මානසික රෝගයකි. අසහනයකි. ද්වේෂය නිසා සිතක ඇතිවන පසුබෑමක් විග්‍රහ කරන සිංහල පදයකි. නමුත් "නිබ්බින්දති" යන පදයෙන් මාගධී භාෂාවේ බුද්ධ භාෂිතයේදී අදහස් කළේ, යථාභූත ඥාණ දර්ශනය සඳහා නියත වශයෙන්ම උපකාර වන්නා වූ නොබැඳීම (මුංචිතුකම්මතා ඥාණයයි) යන්නයි. ඒ වේදනාව විඳව විඳවා සිටීම යන වැරදි දෙයින් ද කැමැත්තෙන්ම මිදී, නොඇලී, නොබැඳී නිදහස් වීමයි. ඒ රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් මිදී නිදහස් වීමයි. කෙළෙස්වලින් මිදි නිදහස් වීමම නිබ්බින්දති යන පදයේ නිවැරදි අර්ථයයි.

9. "අදුක්ඛම සුඛාය වේදනාය" යනුවෙන් ත්‍රිපිටකයේ මාගධී බසින් සඳහන් කළ දේ සිංහල භාෂාවට පරිවර්තනය කරන විට එය "උපේක්ඛා වේදනාව" ලෙසින් පරිවර්තනය කර ඇත. එය වැරදිය. අදුක්ඛම සුඛ වේදනාව නිසා සිතක අවිජ්ජා අනුසය උපත ලබන බව මෙහි පැහැදිළිවම ලියා දක්වා ඇත. එය

"උපේක්ඛා" යන ස්වභාවය ලෙසත් උපේක්ඛාව, වේදනාවක් ලෙසත් පෙන්වාදීම යන දෙකම වැරදිය. උපේක්ඛා යනු සිතක ඇතිවන උතුම් තත්ත්වයකි. රාගයෙන් ප්‍රියදේට නොඇලෙන, ද්වේෂයෙන් අප්‍රිය දේට නොගැටෙන, ප්‍රිය අප්‍රිය අතර මෝහයෙන් මුළා නොවන පිරිසිදු සිතක් උපේක්ඛා සිතකි. එය වේදනාවක් විඳවීමක් ද නොවේ.

ඡ ඡක්ක සූත්‍රය වැනි ඉතාමත්ම උතුම් වූ නියත වශයෙන්ම නිවන් මගඵල ලබාගන්නටම උපකාරවන සේ විග්‍රහ කර වදාළා වූ අති උතුම් ධර්ම දේශණාවන් අපේ සිංහල බෞද්ධයාට සරළ සිංහල භාෂාවෙන් විග්‍රහකර, පිරිසිදු බුද්ධ ධර්මයම මතුකර පෙන්වා දුනහොත් බොහෝ සද්ධස්ස කුලපුත්‍රයින් ද මගඵල ලබා සසර දුකින් මිදී නිදහස් වන බව පිරිසිදුවම දුටු නිසා මෙම උතුම් ධර්ම දේශණාව කාටත් තේරුම් ගතහැකි ආකාරයට මෙසේ ලියා විග්‍රහ කරන්නට තීරණය කළෙමි. මේ උතුම් මාර්ග ප්‍රතිපදාව කිහිප වරක් හෝ කියවා තමා තුළින්ම තම නිවන් මාර්ගය දැක ගන්නා ලෙස කාරුණිකව ඉල්ලා සිටිමි.

* * * * * * * * * *

## බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ භාවනාව

### භාවනා කිරීම යන්නෙහි ධර්ම අර්ථය කුමක්ද?

"භාවනා" යන මාගධී පදයෙන් බුද්ධ භාෂිතයෙහි අර්ථ දක් වූ ක්‍රියාකාරකම සහ පෙරදිග ආගම්වල අන්‍යාගමිකයින් භාවනා යනුවෙන් අදහස් කළ ක්‍රියාකාරකම් යන දෙක අතර ප්‍රායෝගික වශයෙන් මෙන්ම න්‍යායාත්මකවද බොහෝ වෙනස්කම් දක්නට ඇත. ලංකාවේ බෞද්ධයින් මෙන්ම පෙරදිග බොහෝ රටවල ද අපරදිග සමහර රටවල ද අද භාවනා කිරීම විලාසිතාවක් බවට පත්කරගෙන ඇති බව පෙනේ. ඒ ඒ ආගම්වල මෙන්ම, ඒ ඒ රටවලදීත් භාවනා කිරීමෙන් අත්පත් කරගන්නට, ඉෂ්ට සිද්ධ කර ගන්නට බලාපොරොත්තු වන පරමාර්ථයන් ද, බුද්ධ දේශණාවෙහි පෙන්වා වදාළ භාවනා කිරීමෙන් ඉටු කර ගත යුතු පරමාර්ථය ද එකිනෙකට හාත්පසින් ම වෙනස් ය. භාවනාවක් කිරීමේ දී භාවිතා කරන කර්මස්ථානයන් ද මේ ආකාරයෙන්ම අද වන විට විවිධාකාර තත්ත්වයන්ට පත් වී ඇත. මේ සියල්ලටමත් වඩා භාවනාව පිළිබඳව මිනිසුන් අතරේ අද පවතින අනවබෝධය ද එතරම්ම විෂමාකාර ය.

ගෝතම බුදුපියාණන් බුද්ධත්වයට පත්වන්නට පෙරත් අබුද්ධෝත්පාද යුගයේදීත් පෙරදිග බොහෝ රටවල භාවනා කිරීමේ සම්මතයක් හා සම්ප්‍රදායක් පැවතිණි. භාවනා කිරීම මඟින් ධ්‍යාන ලබාගත් ධ්‍යානලාභීන් මෙන්ම, අභිඥාලාභීන් ද එදා මිනිසුන් අතරම වාසය කළ බව ඉතිහාසයේ සඳහන්ව ඇත. බෞද්ධ සාහිත්‍ය පොත්පත්වල දක්වන පරිදි බෝසත් සිද්ධාර්ථ කුමාරයාත් වසර හයක්ම එවකට ප්‍රසිද්ධව සිටි විවිධ ගුරුවරුන් කරා

ගොස් භාවනා ඉගෙන ගෙන භාවනා කරමින් සියලුම ධ්‍යානයන් ලබා ගත් බව අරිය පරියේෂණ සූත්‍රයෙහිත් පෙන්වා දී ඇත.

මුල්ම බුද්ධ දේශණාවල සඳහන් වන පරිදි නම් ගෝතම බුදුපියාණන් බුද්ධත්වයට පත් වූ පසුව දේශණා කර වදාළ නිවන් මඟ හෙළි කළ නිවැරදි බුද්ධ ධර්මයට අනුව නම්, භාවනා යනුවෙන් එදා ලෝකයා සම්මත කරගෙන අර්ථ දැක්වූ සම්මත භාවනා කිරීම ධ්‍යාන ලැබීම, අභිඥා ලැබීම යනාදියටත් බුදුපියාණන් නව අර්ථකථනයක් ලබා දුන් බව පෙනෙන්නට ඇත. එදා දේව සංකල්පවලට යටත් වූ අන්‍යාගමිකයෝ, දේවත්වයට පත් වන්නට, බ්‍රහ්මත්වයට පත් වන්නට, අරූපී බ්‍රහ්ම ලෝකයන්හි උපත ලබන්නට බලාපොරොත්තුවෙන් භාවනානුයෝගී වූහ. මේ ආකාරයෙන් බ්‍රහ්මත්වයට පත් වීමෙන් සදාකාලික විමුක්තියක් ලබාගත හැකි බව එදා බොහෝ ආගම් අදහන්නන්ගේ විශ්වාසය විය.

බුද්ධ භාෂිතයේ පෙන්වා දුන් පරිදි භාවනා කිරීම නැමති ක්‍රියාකාරකම ප්‍රායෝගිකවම යම්කිසි පරමාර්ථයක් ඉටු කරගන්නට උපකාර වන ඉලක්කයක් කරා යොමුවන්නට මඟ පෙන්වා දුන් මාර්ගයකි. භාවනා කිරීම නම් වූ මෙම ක්‍රියාකාරකම, ප්‍රතිපදාව යම් තරමක හෝ ධර්මාවබෝධයක් ලබා ගත් කෙනෙකුට තම දෛනික වූ දිවි පැවැත්මේ හැකි හැම අවස්ථාවකදීමත් ප්‍රායෝගිකවත් භාවිතයට ගතයුතු භාවිතා කර හුරු පුරුදු කර ගතයුතු පුහුණු කරගත යුතු ප්‍රතිපදාවකි.

ගිහියාට මෙන්ම පැවිද්දාට ද එදිනෙදා තම ජීවිත පැවැත්මේ දී නිරතුරුවම භාවනාවක් භාවිතයට ගැනීමෙන් සිතේ මතුවන, පවතින, කෙළෙස් ගති සිතින් ඉවත් කර දමන්නටත් ඒ වෙනුවට ඊට ප්‍රතිපක්ෂ වූ සිතේ යහපත් චේතනාවන් සිත තුළ වගා කර ගන්නටත් ඒ අනුව සිත පිරිසිදු කරගන්නටත් භාවනාව උපකාර කර ගත යුතුයි. මේ අනුව තමන්ටත් පෞද්ගලිකවම යහපතක්, සහනයක්, සැනසීමක් ලබා දෙන ඒ වගේම බාහිර ලෝකයාටත්, සමස්ත සමාජයටත් යහපතක්, සහනයක්, සාමයක් උදාකර වන්නා වූ පිරිසිදු හා යහපත් චේතනා හා අරමුණු සිත තුළ පවත්වා ගන්නට භාවනා කළ යුතුය. සීල, සමාධි, ප්‍රඥා යන ත්‍රිශික්ඛාවටම අයත් ශික්ෂණය, සංවරත්වය හා සම්මා තත්ත්වයට පත් වීම, භාවනා යන ක්‍රියාව තුළින් අර්ථ දක්වන ලද බව බුද්ධ දේශණාවෙහි නම් පෙන්වා දෙයි. සීලයෙන් තොර වූ භාවනාවක් ගැන හෝ සමාධියක් ගැන හෝ සීලයෙන් තොරව ලබා ගත හැකි ප්‍රඥාවක් ගැන හෝ ධම්මානුධම්ම පටිපදාවෙහි නම් දකින්නට නැත. මේ අනුව සීලයෙහි පිහිටා සංවර වීමටත්, සමාධියෙන් කෙළෙස් සංසිඳුවීමටත්, ප්‍රඥාවෙන් සම්මා දිට්ඨියට පත් වීමටත්, සම්මා දිට්ඨියෙන් ප්‍රඥා විමුක්තියට පත් වීමටත් යන සියලු ක්‍රියාවන්ට භාවනා කිරීම යන ක්‍රියාකාරකම භාවිතා කළ යුතුය යන්න බුද්ධ දේශණාවයි. මේ අනුව උතුම් බුද්ධ දේශණාවට අනුකූලව නම් භාවනා කිරීම යනු ගල් පිළිමයක් සේ නොසෙල් වී, එක තැනකට වී, සමාජයෙන් වෙන් වී, සමාජයෙන් කොන් වී, වනාන්තරයකට වී, ගසක් මුලකට වී හෝ මිනිසුන් රහිත ශූන්‍යාගාරයකට වී කාලය ගත කිරීම හෝ කාලය ගෙවා දැමීම අනරිය ධ්‍යානයන් ලබන්නට ක්‍රියා කිරීම මිස, භාවනා කිරීම නොවේ.

අද භාවනා කරනවා යැයි බහුතරයක් ලෝකයා කය (ශරිරය) භාවනාවට හුරු පුරුදු කිරීමේ ක්‍රමය බුද්ධ භාවනාවක් වන්නේ නම් නැත. සතියෙහි පිහිටා, මනස මෙහෙයවා,

යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන්නට පුරුදු වී සිත හා මනස යන දෙක ම හික්මවා ගෙන ඒ අනුව ඉන්ද්‍රියයන් හයම සංවර කර ගන්නටත්, සංවර ලෙසින් ඉන්ද්‍රියයන් හයම භාවිතයට ගන්නටත් පුරුදු පුහුණු වීම බුද්ධ දේශණාවට අනුකූලව භාවනා කිරීමයි.

බුද්ධ දේශණාවෙන් පෙන්වා වදාළ සීල, සමාධි, ප්‍රඥා යන ත්‍රිශික්ඛාව භාවනා කිරීම ද "ආනා පාන" පිළිවෙතකි. "ආනා පාන" පිළිවෙතක් අනුගමනය කිරීමේ අවශ්‍යතාවය බුද්ධ දේශණාවේ හැම තැනකදීම අවධාරණයෙන්ම ප්‍රකාශ කර, අනුදැන වදාරා නිර්දේශ කර ඇත. මේ ආනාපාන පිළිවෙත සමථ, විපස්සනා, අනුපස්සනා ආදී සියලුම භාවනා අංගයන්හි දී ද පැහැදිළිවම හඳුනාගෙන භාවිතා කළ යුතුය. මහා සතර සතිපට්ඨාන සූත්‍රයේ පෙන්වා වදාළ පබ්බයන් 21 හිදී ම මෙම ආන පාන පිළිවෙත අස්ස පස්ස ලෙසින් පෙන්වා දී ඇත. අස්ස යනු ආශ්‍රය කිරීම යන අර්ථයයි. පස්ස යනු ප්‍රහාණය කිරීම, බැහැර කිරීම යන අර්ථයයි. ආන යනු ආනයන යන අර්ථයෙන් ඇතුළට ගැනීම යන්නත් ආපාන යනු අපනයන යන අර්ථයෙන් පිට කිරීම, බැහැර කිරීම යන්නත් අර්ථ දක්වයි.

බඹයක් පමණ වූ මේ ශරීර කූඩුව තුළට යමක් එකතු කර ගන්නට දොරවල් හයක් ඇති බවත්, ඇතුළට ගත් දේ පිට කරන්නටත් දොරවල් හයක්ම ඇති බවත් බුද්ධ දේශණාවේ පෙන්වා දී ඇත. මේ දොරවල් හයෙන්ම ඇතුළට ගන්නා කිළිටි දේ නිසා, කෙළෙස් ගති නිසා, චිත්තසංථානය හා මනස යන දෙකම අඳුරු වෙයි. කිළිටි වෙයි. කෙළෙස් ගති බැහැර කර දැමීම මගින් චිත්තසංථානය හා මනස යන දෙක ම පිරිසිදු වෙයි. ආගන්තුක වශයෙන් ඇතුළට ගන්නා උපක්ලේශයන් නිසා චිත්තසංථානය ද, අධ්‍යාත්මිකව මතුවන කෙළෙස් නිසා චිත්තසංථානය හා මනස ද යන දෙක ම කිළිටි වෙයි. මේ අනුව ආනපාන භාවනාව පිළිබඳව බුද්ධ දේශණාවේ විග්‍රහ කළ තැන් ගැඹුරින් අධ්‍යයනය නොකර පදපරම ලෙසින් අශ්වාස ප්‍රශ්වාස කිරීම යැයි අර්ථ දැක්වීමෙන් අද වන විට සිදු කරගත් හානිය විනාශය අති මහත් ය. මේ ආකාරයෙන් වැරදියට බුද්ධ භාෂිතය පදපරම ලෙසින් අර්ථ දක්වා ප්‍රායෝගිකවම ඒ ප්‍රාණයාම භාවනාවන් මතු කරමින් අනරිය ධ්‍යානයන් ලබා ගෙන අතීතයේදී අසඤ්ඤ තලයන්හි අතරමං වූ මිනිසුන් ගණන අතිවිශාලය. ඒ උතුම් බුද්ධ ධර්මයෙහි පෙන්වා දුන් ආනපානසති භාවනාව වැරදි ලෙසින් තේරුම් ගැනීම නිසාම සිදු වූ, සිදු කර ගත් මහා විනාශයේ ප්‍රතිඵලයන් ය.

තමන්ගේ සිත නිවෙන, තමන්ගේ සිත පිරිසිදු වන, තමන්ට ම යහපත් ප්‍රතිඵල උරුම කර දෙන, උදා කරවන, වීතරාගී, වීත ද්වේෂී, වීත මෝහී, අරමුණු භාවිතා කරන්නට පුරුදු විය යුතුයි. ඒවාගේම බාහිර ලෝකයාටත්, ස්වභාව ධර්මයටත් යහපතක් ගෙන දෙන, සාමය, සමාදානය උදාකරවන දේ කරන්නට සිත, කය, වචනය යන තුනමත් පුරුදු පුහුණු කළ යුතුයි. ඒවාගේම තමන්ගේ සිත කිළිටි වන, අයහපත් ප්‍රතිඵල (අපල) තමන්ටම උරුම කර දෙන, සිතේ හා මනසේ පිරිසිදු බවට හානි කරවන, සියලුම අරමුණු, සිතුවිලි තෝරා බේරා ඒවා නොකරන්නට, ඒවා අත්හැර ඉන් මිදී නිදහස් වන්නට සිත, කය, වචනය යන තුනමත් පුරුදු කරගත යුතුයි.

ඒවාගේම බාහිර ලෝකයාට අයහපත් දේ, ලෝක සත්ත්වයාට අහිතකර දේ, සංසාර

ගැටළු නිර්මාණය කරන ආකාරයේ අයහපත් සිතුවිලි, කථා හා ක්‍රියාවන් කිරීමෙන් වැළකී, එවැනි දේ අත්හැර, ඉන් මිදී නිදහස් වන්නටත් වගබලා ගත යුතුයි. ශ්‍රැතවත් අරිය ශ්‍රාවකයෙකු මෙසේ පිළිවෙතින් පෙළ ගැසීම ආනාපානසති භාවනාවයි. මේ මගින් තමන් නිවුණු, නිදහස්වුණු, මිදුණු, විමුක්තියට පත් වූ පුද්ගලයෙකු බව දැන නිරාමිස ප්‍රීතියට පත් වන්නටත්, ඒවාගේ ම තමාගෙන් බාහිර ලෝකයාට හෝ ස්වභාව ධර්මයාට හෝ අහිතක්, අයහපතක්, අවැඩක්, අසාධාරණයක් නොවන ලෙසින් හැමවිටම උපේක්ඛා සිතින් ක්‍රියා කරන්නෙකු බවට පත්වීමෙන් ඉන් නිරාමිස සුවයක් ලබන්නටත් හැකිවෙයි. මෙවැනි යහපත් පිළිවෙතක් දෛනිකව අනුගමනය කරන්නට අවබෝධයක් ඇතිකර ගැනීම ධර්මාවබෝධය ලැබීමයි. බුද්ධ ධර්මයෙහි පෙන්වා වදාළ "ධම්මානුධම්ම ප්‍රතිපදාවයි". සීල, සමාධි, පඤ්ඤා යන ත්‍රිශික්ඛාවමත්, සමථ විපස්සනා භාවනාත්, චේතෝ විමුක්තිය, ප්‍රඥා විමුක්තිය යන උභතෝභාග විමුක්තියත්, ලෞකික, ලෝකෝත්තර උභයාර්ථ සාධනයත් සතර මග, සතර ඵලයනුත් සම්මා අංගයන් දහයමත් සම්පූර්ණ වන්නට මේ මාර්ගයම අනුගමනය කළ යුතුම ය. ඒ සඳහා මේ මාර්ගය හැර වෙනත් මාර්ගයක්ද නැත.

ලෝභ, ද්වේෂ, මෝහ යන කිළිටි, කෙළෙස් ගති තමන් තුළම ක්‍රියාත්මක වේදැයි සිතා සොයා බලා දැක ගෙන අලෝභ, අද්වේෂ, අමෝහ වශයෙන් මේ ගති අත්හැර දමන්නටත් ලෝභක්ඛය, ද්වේෂක්ඛය, මෝහක්ඛය වශයෙන් මේ කෙළෙස් ගති යළි සිත තුළ නොඋපදින්නට ම සිත හා මනස යන දෙකම පිරිසිදු කර ගන්නටත් මේ භාවනා ක්‍රමයන් හතරම මිනිසෙකුට ඉමහත් සේ උපකාරකය. මෙතෙක් සාරයි කියා සංඛාර කරමින් එකතු කරගත් "සංසාර" ගති දැක ඒ ගති තමා තුළින් ඉවත් කරන්නට ක්‍රියාකර, "අසං" තත්ත්වයට පත් වී ඒ ගති සහමුලින්ම සිතින් කපා ඉවත්කර දැමීම "සංඛය" යනුවෙන් ද ධර්මයේ පෙන්වා දී ඇත. සාර අසංඛය යන පදවල තිපරිවට්ටය හා අර්ථය මේ අනුව හොඳින්ම තේරුම් ගන්නට ද උත්සාහ කළ යුතුය.

භාවනා කර නිවන් අවබෝධ කර ගැනීම යනු මෙතෙක් කාලයක් සාරයි කියා එකතු කර ගත් "සං" (සමුදය දැක) සං අත්හැර, ''අසං'' කරන්නටත්, යළි ''සං'' නොඋපදින ලෙසින්ම කෙළෙස් කපා, මුල් හැර දමා "සං" "ඛය" කර දමන්නටත් ක්‍රියා කරන කාල පරාසයයි. එය "කල්පය" ලෙසින් බුද්ධ දේශණාවෙහි පෙන්වා වදාරා ඇත.

මාන, දිට්ඨි, අවිජ්ජා යන ප්‍රපංච ධර්මයන් සිතක ක්‍රියාත්මක වීම නිසා උද්ධච්ච බව, උදහස් වීමේ ගතිය, අස්මිමානය, මමත්වය, මඤ්ඤතාවය මෙන්ම ආත්මාර්ථකාමී බව, කපටි බව වැනි ළාමක ගති ගුණයන්ද මිනිසෙකුගේම සිතක් තුළ රැඳී පවතින්නේ චිත්තසංථානය හා මනස යන දෙතැනම කෙළෙස්වලින් අපිරිසිදු වී, මෝහයෙන් මුවහ වී පවතින නිසාමය. තරහා යන ගතිය, වෛර කරන ගතිය, ක්‍රෝධය, ද්වේෂය, ඊර්ෂ්‍යාව හා පටිඝය වැනි නරක ගතිගුණ පුද්ගලයෙකුගේ චිත්තසංථානය හා මනස යන දෙකමත් කිළිටි කර ලේ ධාතුව හා හදවත නිරන්තරවම කිළිටි කරවන රෝගකාරක මූල බීජයන් ද උපද්දවනවා වාගේ ම තමන්ව ම අපාගත කරවන ගතිගුණයන් බව ද තේරුම් ගන්නට නම් මිනිසෙකු විසින් යම්කිසි ධර්මාවබෝධයකුත් ලබාගත යුතු ම ය.

ආසව, අනුසය ලෙසින් තම සිත තුළ පවතින මේ ගති ක්‍රියාත්මක වී තමන්ට ම

සතුරන් ලෙසින් අපල උපද්‍රව උරුම කර දෙන්නේ තමා තුළම ඇති මේ ගති නිසාම මිස වෙනත් බාහිර බලවේග නිසා නොවන බවද තේරුම් ගන්නට මිනිසෙකු දක්ෂයෙකු විය යුතුය. දස සංයෝජනවලින් ම තමන් සසරට බැඳ තබන්නේ දුකට පත් කරවන්නේ තමා තුළම මුල් බැස ගෙන ක්‍රියාත්මකව පවතින මේ කෙළෙස් ගතිමය. යළි යළිත් සිතේ කෙළෙස් උපත ලබන්නේ ද, සමුදය බිහි වන්නේ ද, ඒ කෙළෙස් ගති සිතේ මුල් බැස ගෙන පවතින නිසාමය.

ධර්මාවබෝධයක් ලබාගෙන, සුතමය ඥාණයෙන් යුතුව ක්‍රියාකර, තමන්ගේ ම සිත හා මනස යහපත් සේ භාවිතා කරන්නට පුරුදු පුහුණු වීම භාවනා යනුවෙන් අර්ථ ගැන්වූ ක්‍රියාවයි. මේ අනුව භාවනා කිරීමෙන් කරගත යුතු වන්නේ තම සිත තුළම මුල් බැස ගෙන පැවති හා පවතින ලෝභ, ද්වේෂ, මෝහ යන කෙළෙස් ගති සහමුලින් ම කපා හැර, සිඳ දමා ඒවායින් නිදහස් වීම යි. සිත හා මනස පිරිසිදු කර ගැනීම යි.

## භාවනාවක් භාවිතා කළ යුත්තේ කුමකටද?

කෙළෙස්වලින් සිත කිළිටි වී, මනස මොට්ට වී, තණ්හාවෙන් හා අවිද්‍යාවෙන් ක්‍රියා කරන පෘථග්ජන පුද්ගලයෙකුට තම සිත හා මනස ශුද්ධ පවිත්‍ර කර, පිරිසිදු කර ගන්නට මාර්ගයක් හෝ ක්‍රමවේදයක් හෝ නවීන තාක්ෂණයෙන් හෝ නවීන විද්‍යාව තුළින් හෝ සොයා දැන ගත නොහැකිය. එවැන්නක් මුදලකට මිල දී ගැනීමට ද නොහැකිය. බුද්ධ දේශණාවේ දේශණාකර වදාළ බුද්ධ ධර්ම මාර්ගයම නිවැරදිව අසා දැන ඒ මාර්ගය ම නිවැරදිව ම අනුගමනය කිරීමෙන් ම මිනිස් සිත හා මනස යන දෙකම පිරිසිදු කරගන්නට මිනිසෙකුව  උපත ලත් හැම කෙනෙකුටම අවස්ථාවක් ද ලැබෙයි. බොහෝ මිනිස්සු මේ උතුම් අගනා අවස්ථාවෙන් නිසි ඵල ප්‍රයෝජන ගන්නට නොදනිති. උගත්කමෙන් හා බුද්ධිමත්කමෙන් මත් වූවන්ට ද මේ අවස්ථාව ලබා ගන්නට ඒ ඒ පුද්ගලයන්ගේම උගත්කම හා බුද්ධිමත්කමම බාධාවක් ලෙසින් ද හේතු වෙයි.

සිත හා මනස පිරිසිදු කරගෙන ප්‍රඥා විමුක්තියට පත් වන්නටත් අකුප්පා චේතෝ විමුක්තියට පත් වන්නටත් නම් බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ සීල, සමාධි, පඤ්ඤා යන ධම්මානුධම්ම ප්‍රතිපදාවම අනුගමනය කළ යුතුය. "භාවනා කළ යුතු වන්නේ සිල් රැකිය යුතු වන්නේ සිත දියුණු කර ගන්නටය" යන වැරදි මතයක්, වැරදි අදහසක් අද බොහෝ දෙනා තුළ ඇත. බෞද්ධයා තුළට ද මේ වැරදි මතයම කාවද්දා ඇත. බොහෝමයක් ගිහි පැවිදි බෞද්ධ උගතුන් හා සමාජයේ පිළිගත් දේශකයින්වහන්සේලා පවා මේ වැරදි මතයේම පිහිටා වැරදි මතයම ලෝකයාටත් දේශණා කරන බවද පෙනෙන්නට ඇත. මේ වැරදි මතය පළමුවෙන්ම නිවැරදි කර ගත යුතුය. භාවනා කළයුතු වන්නේ සිත දියුණු කරගන්නට හෝ සිත සංවර්ධනය කර ගන්නට හෝ නොව සිත තුළ මුල් බැස ගෙන පවතින හා සිත තුළින්ම මතු වී එන කෙළෙස් ගති, කිළිටි ගති ප්‍රහාණය කර දමා, ඒ කිළිටි ගති සහමුලින්ම උදුරා ඉවත් කර දමා, සිත හා මනස යන දෙකම පිරිසිදු කර ගැනීමටය. ධනාත්මක චින්තනය, සංවර්ධනය, දියුණුව යන සම්මත පදවලින් අදහස් කරන්නේ ලෞකික හා භෞතික අතින් යම්කිසි දැනුම් සම්භාරයක් උපාදානය කර ගැනීමකි. කෙළෙස් වලින් පිරී පවතින කිළිටි සිතක් ක්‍රියාත්මක වන ආකාරය නිවැරදිව දැක ගැනීමට ඒ ඒ පුද්ගලයාටම බාධකයක් වන්නේත් ඒ ඒ පුද්ගලයාගේම සිතින් උපාදානය කරගත් මේ

ලෞකික දැනුම් සම්භාරය ම විය හැකිය.

සිත කිළිටි වී, මනස මුවහ වී, මනස මොට්ට වී මෙවන් කෙළෙස් ගති තමා තුළ ම මුල් බැස ගෙන ක්‍රියාත්මක වන බව මහන්තත්වයෙන් මත් වූ, උද්ධච්චයෙන් විස්සෝප වූ පුද්ගලයෙකුට තේරුම් ගත නොහැකි වෙයි. මේ අනුව තමාගේම මනෝමය කය තුළම, කල්ප කාලාන්තරයක් පුරාවටම මුල්බැසගෙන ක්‍රියාත්මක වූ දැනටත් ක්‍රියාත්මකව පවතින ලෝභ, ද්වේෂ, මෝහ යන කෙළෙස් ගති තමන් තුළින්ම දැන දැක හඳුනා ගත යුතුය. මේ කෙළෙස් ගති පවතින තුරාවට යළි යළිත් පුන පුනාම ඒ කෙළෙස් ගතීන්ම සිතේ උපදින බවත් (පුනබ්බවෝති යායං තන්හා) අවබෝධ කරගෙන මේ කෙළෙස් ගති සහමුලින්ම තම චිත්තසංථානයෙන් උදුරා ඉවත්කර දමන්නටත් නැවත ඒ කෙළෙස් ගති නොඋපදින ලෙසින් අනුත්පාද නිරෝධයෙන්ම ප්‍රහාණය කරන්නටත් සිත හා මනස යන දෙතැනම ශුද්ධ පවිත්‍ර කර ගන්නටත් සීල, සමාධි, පඤ්ඤා යන තුන් ශික්ඛාවම සම්පූර්ණ කර ගන්නටත් භාවනාව යන භාවිතයම පුරුදු කරගත යුතුය. සමථ, විපස්සනා යන යුගනද්ධ භාවනාවම මේ සඳහා භාවිතා කළ යුතුය.

මේ අනුව භාවනා කළයුතු වන්නේ සිත හා මනස යන දෙතැනම පිරිසිදු කර ගන්නටය. ගත, සිත දෙකම සැහැල්ලු කර ගන්නටය. කෙළෙස් බර බහා තබන්නටය. මෙතුවක් කලක් සසරට බැඳ තිබූ කෙළෙස් බැමි කපා දමා බැම්මෙන් මිදී නිබ්බාන තත්ත්වයට පත් වන්නටය. සිතේ මතුවන භය, කම්පනය, චලනය, වේදනාව, විස්සෝපවීම නැතිකර දමා සිත ඒකාග්‍රතාවයකට පත් කර ගන්නටත් සිතේ මතුවන මේ ඒකාග්‍රතාවය දිගින් දිගට ම සිත තුළ පවත්වා ගෙන යන්නටත් ඒ අනුව සිතේ මතුවන අරමුණු සියල්ලම පැහැදිළිව හා පිරිසිදුව දැක තේරුම් ගන්නටත් හැකි ශක්තියක් ලබා ගැනීමටත් භාවනාවෙන් හැකිවෙයි. මේ අනුව සිතේ මතු වූ අරමුණට අදාළ වූ චේතනාව පිරිසිදු යහපත් එකක්ද, අපිරිසිදු කෙළෙස් උපද්දවන එකක්දැයි නිගමනය කරන්නට ශක්තියක් එවැනි භාවිත සිතකට ලැබෙයි. එවන් සිතක් ක්‍රියා කරන්නේ යෝනිසෝ මනසිකාරයෙන් යුතුවමය. භාවිතා කළයුතු යහපත් චේතනා සහිත අරමුණු භාවිතා කරන්නටත්, භාවිතා නොකළයුතු අපිරිසිදු චේතනා සහිත අරමුණු භාවිතයෙන් ඉවත් කර ප්‍රහාණය කර දමා සිත ශුද්ධ පවිත්‍ර කර ගන්නටත් එවන් යෝනිසෝමනසිකාරයෙන් යුතුව ක්‍රියා කරන්නා දක්ෂයෙකුද වෙයි. සක්කෝ, උජූච, සූජූච, සුවචෝචස්ස, මුදු අනතිමානී යනාදී වශයෙන් කරණීයමෙත්ත සූත්‍රයේ පෙන්වූයේ මේ දක්ෂකමයි.

මෙම පරීක්ෂණය, නිරීක්ෂණය හා නිගමනය නිරන්තරයෙන් ම භාවිතා කරන්නට සිත හා මනස යන දෙකම පුහුණු කර, පුරුදු කර සිත පදම්කර ගැනීම ආසේවිතාය භාවිතාය, බහුලීකතාය යනුවෙන් ද භාවනා යන අර්ථයෙන්ද විග්‍රහ කර දී ඇත. තමන්ගේ සිතට අරමුණු වන මෙවන් යම් වැරදි චේතනාවකට අනුව තමන් ක්‍රියා කළහොත් ඒ ක්‍රියාවේ, කථාවේ, සිතුවිල්ලේ ප්‍රතිඵලයක් ලෙසින් තමාටම හෝ බාහිර ලෝකයාට හෝ ස්වභාව ධර්මයට හෝ යම් අයහපතක්, අවැඩක්, අසාධාරණයක්, විනාශයක්, අතරමං වීමක් මෙන්ම සංසාර ගැටළුවක් නිර්මාණය වීමක් ද සිදු වන්නේ නම් හෝ නිවනට බාධක වූ නිවන ප්‍රමාද කරවන ආකාරයේ යම් ප්‍රතිඵලයක් උරුමකර දෙන්නේ නම් හෝ ඒ සිතුවිලි වෙනස් කරගෙන, ඒ ක්‍රියාව නවතා දමා ඊට ප්‍රතිපක්ෂ වූ අනතිවත්තන අරමුණක් කරා සිත

මෙහෙය වන්නට දක්ෂයෙකු වීම භාවනා කිරීමයි. ඒ වාගේ ම තම සිතෙහි මතු වූ මෙම කෙළෙස් ගති සහිත වූ වැරදි චේතනාව තම සිතේ මතු වන්නට මුල් වූ ගතිය තමා තුළම මුල්බැසගෙන තම චිත්තසංථානයේ ම පවතින වැරදි ගතියක් බව දැන හඳුනාගෙන යථා පරිදි අවබෝධකර ගෙන මේ කෙළෙස් ගතිය තම චිත්තසංථානයෙන් සහමුළින්ම උපුටා උදුරා දමන්නට, සිත ඉන් නිදහස් කර ගන්නට, විපස්සනා අනුපස්සනා භාවනාවක් කරන්නටත් දැනුමක් හා අවබෝධයක් මෙන් ම පුරුද්දක් ද ඇති කර ගත යුතුය.

කාම විතක්ක විචාර, ව්‍යාපාද විතක්ක විචාර, විහිංසා විතක්ක විචාර තම චිත්ත සංථානය තුළම මතුවනු දැක ඒවා මතු වන අවස්ථාවේ දී ම හැකි පමණ ඉක්මණින් ම දැන හඳුනාගෙන, තම සිතින් ඒවා ඉවත්කර දමන්නටත්, ඒ සිතුවිලි දිගේ සිතින් රවුම් ගැසීම නවතා දමා, ඊට ප්‍රතිපක්ෂ වූ සවිතක්ක සවිචාර පවත්වන්නටත් පුරුදු විය යුතුය. ඒ සමගම මෙවැනි කෙළෙස් ගති යළි යළිත් සිත තුළින්ම මතුවන්නේ නම් මේ ගති සිත තුළම මුල් බැසගෙන පවතින නිසා බව තේරුම් ගෙන කෙළෙස් ගති මුලින් ම උදුරා දමන්නට, මරණානුස්සතිය, බුද්ධානුස්සතිය භාවනා කරන්නටත් පුරුදු පුහුණු විය යුතුය. මේ ආකාර වූ ධම්මානුධම්ම ප්‍රතිපදාව ධ්‍යාන ලැබීම හෙවත් කෙළෙස් තාවකාලිකව දවා හැර යටපත් කරදමා ලබන ලෞකික ධ්‍යාන සුවයකට වඩා කෙළෙස් මුල් ගළවා දමා නිදහස් වීමක් බවද වෙන් කොට දැනගත යුතුය.

## භාවනා කිරීමේ ඒකායන පරමාර්ථය

සිත හා මනස සංවර කරගෙන පාලනය කර ගැනීම සිත හා මනස කෙළෙස්වලින් තොරව පිරිසිදු තත්ත්වයට පත්කර ගැනීම චේතනාව පිරිසිදු කරගෙන යහපත් සිතුවිලි භාවිතයට ගැනීම නූපන් කෙළෙස් යළි නූපදින ලෙසින් ම අනුත්පාද ලෙසින් ම ප්‍රහාණය කිරීම හා කෙළෙස්වලින් තොර වූ පිරිසිදු සිතක් හා මනසක් දිගටම පවත්වා ගන්නට පුරුදු පුහුණු වීම භාවනා කිරීමේ පරමාර්ථය විය යුතුය. කය දෙස, ශරීර කූඩුව දෙස බලා කය භාවනාවට යොමු කිරීමක් බුද්ධ දේශණාවේ නම් පෙන්වා දී නැත.

ඒවාගේ ම අද බොහෝමයක් ම භාවනා මධ්‍යස්ථානවල පෙන්වා දෙන පරිදි සිත හා මනස අසඤ්ඤී තත්ත්වයට පත් කරවන, අක්‍රීය තත්ත්වයට පත් කර වීමක්ද බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ භාවනාවට නම් නොගැළපෙයි.

ඉන්ද්‍රියයන්හි අසංවර ක්‍රියාකාරීත්වය නිසා උපත ලබන්නා වූ ක්‍රියාවේ "සං" වේගය පාලනය කරගන්නට කායේ කායානුපස්සනා කිරීම ද, ක්‍රියාවේ අනවශ්‍ය වේගය නිසා සිතේ හා මනසේ උපත ලබන රත් වීමෙන්, ගිනි ගැනීමෙන් උපත ලබන වේදනාව පාලනය කරගන්නට වේදනාසු වේදනානුපස්සනාවද, සිතේ ඇති වන අනවශ්‍ය චිත්තාවේගය පාලනය කරගන්නට චිත්තේසු චිත්තානුපස්සනාව ද, අනිච්ච, දුක්ඛ, අනත්ථ මෙන් ම නිරෝධානුපස්සනාවත්, පටිනිස්සග්ගානුපස්සනාවත් වැඩීමට පුරුදු වීමෙන්, ධම්මේසු ධම්මානුපස්සනාව සම්පූර්ණ කරගැනීමත් සඳහා සතර සතිපට්ඨාන භාවනාවෙහිම යෙදිය යුතුය.

මෙය සමථ, විපස්සනා යන කර්මස්ථාන දෙකම එකවර සම්පූර්ණයෙන් ම වැඩෙන

යුගනද්ධ භාවනා ක්‍රමයයි. ප්‍රායෝගික වශයෙන් සතර කමටහන් - චතුරා රක්ඛා - වැඩීමෙන් සතර සතිපට්ඨානයත් සම්පූර්ණ වෙයි. මෙහිදී දවසේ නිදා ගන්නා කාලය හැර අනෙක් සියලු අවස්ථාවලදී සතර ඉරියව්වෙදීම, ඕනෑම ක්‍රියාවක යෙදෙන ගමන් ම, මේ සතර කමටහන් භාවිතා කරන්නට පුරුදු විය යුතුය. මෙසේ සතර කමටහන් භාවිතා කරන්නට, භාවනා කරන්නට නම් ධම්මෝ සංදිට්ඨිකෝ තත්ත්වයට පත් වී, සම්මා දිට්ඨියට පත් වීම සම්පූර්ණ කර ගත යුතු පූර්ව කොන්දේසියකි. ඒ සුතමයේ ඥාණයයි.

මිනිසෙකු ලෙසින් උපත ලැබූ කෙනෙකුට තම මනසේ ශක්තිය පිරිසිදු කරගෙන, සිත ඒකරාශි කරගෙන, යම්කිසි විශේෂ බලයකින් ක්‍රියා කිරීමේ හැකියාවක් පවතින බවද, ලෝකය තුළදීම තමන්ගේ ම මනසේ ශක්තිය භාවිතා කරමින් ලෝකයම අතහැර ලෝකෝත්තර තත්ත්වයට පත් වීමේ හැකියාවක් හා ශක්තියක් ද ලබා ගත හැකිය. ඒවාගේම තම මනසේ ශක්තියම භාවිතා කරමින් සාමාන්‍ය මිනිසෙකුට කළ නොහැකි යම් යම් අධිමානසික ශක්තියකින් ක්‍රියා කිරීමේ හැකියාව ද මිනිසෙකුට ම ලබා ගත හැකිය. ඍද්ධි ප්‍රතිහාර්යයන් පෑම, අභිඥා ශක්තියෙන් ක්‍රියා කිරීම, පරචිත්ත විජානනය, මිනිසුන් මෝහනය කිරීමේ හැකියාව, තවත් කෙනෙකු තම වසඟයට ගැනීමේ හැකියාව, සමහරක් ලෙඩ රෝග සුව කිරීමේ හැකියාව ද මේ මානසික ශක්තියෙන් ම කළ හැකිය. මේ දෙවනුව පෙන්වා දුන් දේ ලෞකික දේය. ඒවා නිවනට බාධාවන් මිස කිසිසේත් ම උපකාර වන දේ නොවේ.

බුදුපියාණන්වහන්සේ පෙන්වා අනුදැන වදාළ භාවනා කිරීම මඟින් දෙවනුව කී ආකාර ලෞකික බලාපොරොත්තු ඉටු කර ගැනීමට නොව පළමුව පෙන්වා දුන් ලෝකෝත්තර නිවන් සුවයට පත් වීමටම මඟ පාදා ගැනීමටය. බුදුපියාණන් දස අනුස්සති භාවනා කිරීමට කර්මස්ථානයන් ලබා දුන්නේ කල්ප කාලාන්තරයක් තුළම ලෝකයට හසු වී, කිළිටි වී පවතින මනස හා සිත යළි යළිත් කිළිටිවන්නට හේතු වූ ආසව, අනුසය සමුදය වන්නාහාම කෙළෙස් ගති ප්‍රහාණය කර දමා නිදහස් වීමට ආසව අනුසය සිතින් ම ගළවා උදුරා ඉවත්කර දැමීමට නිවැරදි ආකාර වූ මඟ පෙන්වීමක් කිරීමටය.

කෙළෙස්වලින් පිරුණු සිතක් සහිත අශ්‍රුතවත් පෘථග්ජනයෙක් ලෙසින් සංසාරයි කියා ලෝකයෙන් තවත් යමක් අල්ලා උපාදානය කර ගැනීමේ බලාපොරොත්තුවෙන් ම ඉන්ද්‍රියයන් පිනවා යම් ආස්වාදයක් විඳවීමේ කැමැත්තෙන් ම මෙතෙක් ලෝකයට බද්ධ වී ක්‍රියා කළ පුද්ගලයෙකුට මේ සංසාර පැවැත්මේ යථාස්වභාවය එනම් අනිච්ච බව, දුක්ඛ බව, අනත්ථ බව යථාපරිදි දැන ගත හැකි වන්නේ බුද්ධ කල්පයක් තුළදීම පමණි. භද්‍ර කල්පය යනු සසරට බැඳී, සංසාර ගමනට තව තවත් බැඳෙන්නටම ක්‍රියා කරන කාලයයි. බුද්ධ කල්පය යනු සසර බැම් සිඳ දමා, සසර දුකෙන් මිදී නිදහස් විය හැකි කාල පරාසයයි. මේ අනුව භද්‍ර කල්පය හා බුද්ධ කල්පය ද වෙන් කොට දැන හඳුනා තේරුම් ගත යුතුයි.

මේ අතීත භද්‍ර කල්පය තුළ අනන්ත අප්‍රමාණ වාරයක් අනරිය ධ්‍යානයන් ලබා, අභිඥා ලබාගෙන, ඍද්ධි ප්‍රතිහාර්යයන් පාමින් දෙව් මිනිස් තලයන්හි මෙන් ම බ්‍රහ්ම ලෝකවල ද, චක්‍රවර්ති රජුන් ලෙස ද, ලෝකය තුළම ඔබ අප සැම දෙනා ම අතරමං වන්නට ඇත. සීල, සමාධි, ප්‍රඥා යන ත්‍රිශික්ඛාව ම සම්පූර්ණ කරගෙන අනිච්ච, දුක්ඛ, අනත්ථ යථාපරිදි අවබෝධ කරගෙන නිච්ච, සුඛ, අත්ථ සංඥා සිතින් ම ඉවත් කර දමා,

පංචකාම නීවරණ ධර්මයන්ම සිතින් ප්‍රහාණය කර දමා, රාගක්ඛය කිරීම, ද්වේෂක්ඛය කිරීම, මෝහක්ඛය කිරීම බුද්ධ කල්පයක දීම පමණක් කරගත හැකි දෙයකි.

මේ අනුව බුද්ධ කල්පයක් වූ මේ වර්තමාන කාල පරාසයේදීත් අනරිය ධ්‍යානයන් ලබා ගන්නට ම භාවනාවන්හි යෙදීම, බුද්ධ දේශණාවෙහි නම් කොතැනකවත් පෙන්වා දුන් නිර්දේශකර වදාළ ප්‍රතිපදාවක් නොවේ. එසේ ධ්‍යානයන් ලබාගෙනම මඟඵල ලැබිය යුතුයැයි ප්‍රකාශ කරන්නට උත්සාහ දැරීම ද වැරදි ක්‍රියාවකි.

සිතක මතුවන, සිතක් කිළිටි කරවන, රාග, ද්වේෂ ආදී පංචකාම නීවරණ ධර්මයන් කෙළෙස් ගති තාවකාලිකව සිතින්ම යටපත් කර, සිත සමථයට පත්කර ගැනීම සමථ භාවනාවකින් ද කර ගත හැකිය. කල්ප කාලාන්තරයක පටන් අනන්ත සංසාරයේ දිගින් දිගටම මුල්බැස ගෙන, දිගටම පවත්වා ගෙන ආ ආසව, අනුසය ධර්මයන් - කෙළෙස් ගති සහමුළින්ම උදුරා දමා, නැවත නොඋපදින ලෙසින්ම කෙළෙස් අස්කර දැමීමට, කෙළෙස් මුල් සිඳ දැමීමට ක්‍රියා කිරීම කළ හැකි වන්නේ බුද්ධ දේශණාවෙන් පෙන්වා වදාළ විපස්සනා අනුපස්සනා භාවනාවන් ප්‍රායෝගිකවම භාවිතා කිරීමෙනි. නිතර නිතර බහුල ලෙසින්ම භාවිතා කිරීමෙනි. "ආසේවිතාය, භාවිතාය, බහුලීකථාය, යානි කථාය, වත්ථු කථාය, පරිචිතාය, අනුචිතාය, සුසමාරද්ධාය" යනුවෙන් පෙන්වා දුන්නේ මේ ධර්මතාවයයි.

විෂ්කම්භන වශයෙන් හා තදංගම වශයෙන් කෙළෙස් තාවකාලිකව යටපත් කර දමා යම් ලෞකික සුවයක් ලබා ගැනීම මගින්ද බොහෝමයක් දෙනා තෘප්තිමත් වන්නට ක්‍රියාකරන්නේ එයද සංසාර ගති පුරුද්දක් නිසාය. සමුච්ඡේදප්පහාණයෙන්ම කෙළෙස් ප්‍රහාණය කර දමා පටිපස්සදී ප්‍රහාණයෙන් හා නිස්සරණප්පහාණයෙන් කෙළෙස් යළි නූපදින ලෙසින්ම කෙළෙස් මුල් සිඳ දමා නිදහස් විය හැකි බව ඔවුන් නොදන්නා නිසාම ධ්‍යාන ලබන්නට ක්‍රියා කරති. මේ අනුව ධ්‍යානයන් ලැබීමේ චේතනාවක් සිතක ඇති වන්නේ ද විඤ්ඤාණයේම ගතියක් වංචක ධර්මයක් මුල්කර ගෙනය.

උරුමයෙන්ම, උපතින්ම මිනිසෙකු ලෙසින් ලබා උපන් මනසේ ශක්තිය, යහපත් සේ යහපත් ආකාරයෙන්ම, සංවරව භාවිතා කරන්නට දක්ෂ වූ පුද්ගලයා ඥාණවන්තයෙකු, ප්‍රඥාවන්තයෙකු බවට පත් වෙයි. උරුමයෙන් ලබා උපන් මනසේ ශක්තිය අයහපත් ලෙසින් අයහපත් ආකාරයෙන් අසංවරව වැරදි ලෙසින් භාවිතා කරමින් තමන්ටත් බාහිර ලෝකයාටත්, ස්වභාව ධර්මයාටත් හානියක්, විනාශයක්, පාපයෙන් කිළිටි කිරීමක් සිද්ධ කරන්නට ක්‍රියා කරන්නේ අඥාණ, අශ්‍රැතවත් පෘථග්ජන ගතිය නිසයි. යෝනිසෝමනසිකාරය හා අයෝනිසෝමනසිකාරය යන දෙකම වෙන්කොට හඳුනාගන්නට තරම්වත් ශක්තියක් මනසේ නැති වූ විට මිනිස් බව කෙළෙසා ගන්නා එවන් පෘථග්ජනයින් මතු කල්ප කාලාන්තරයක් යළි මිනිස් බවක උපත ලබා ගැනීමේ උතුම් අවස්ථාව ද අහිමි කර ගන්නේය. භාවනා කළයුතු වන්නේ මෙම පංචස්කන්ධ ලෝකය තුළින් තව තවත් යමක් අල්ලා ගන්නට, එකතු කරගන්නට හෝ උපාදානය කරගන්නට හෝ නොවේ.

මේ ලෝකය තුළින් යමක් අල්ලාගෙන, උපාදානය කර ගැනීමේ ක්‍රියාවලියෙහි ඇති අනිච්ච බව, දුක්ඛ බව, අනත්ථ බව පසක් කොට දැක යථාවබෝධයක් ලබා ගැනීමට ම භාවනා කළ යුතුය. යම් කිසි සැපයක්, සුවයක්, ලාභයක්, ආස්වාදයක් ලැබීමේ ආමිස බලාපොරොත්තුවෙන් යමෙක් භාවනා කරන්නේ නම්, එයද වැරදි චේතනාවකි. ධ්‍යානයන් ලබාගෙන ධ්‍යාන සුවයට පත් වීමේ අපේක්ෂාව ද නිවනට බලවත්ම බාධකයකි. ලබා ගත් ධ්‍යානයන් ද අනිච්ච බව විපරිණාමයට පත් වී වෙනස් වන බව අවසානයේ විනාශ වී ධ්‍යාන ශක්තිය ද පිරිහී, අහෝසි වී යන බව යථාපරිදි තේරුම් ගත යුතුය.

මිනිස් වාසයෙන් තොර වූ අරඤ්ඤයකට, ගසක් මුලකට, සුඤ්ඤාගාරයකට ගොස් කැලෑවකට වැදී, ගල් ගුහාවකට ගොස් මිනිස් වාසයෙන් තොර තැනකට ගොස් සමාජමය ප්‍රශ්නවලින් තාවකාලිකව මිදී ජීවිතයෙන් පැනයන්නට උත්සාහ දැරීම ද භාවනා කිරීමක් වන්නේ නැත. මිනිසුන් අතරම ජීවත්වෙමින් අටලෝ දහමටම මුහුණ දී සමාජමය ගැටළු නිර්මාණය වන ආකාරය තම සිත තුළින් ම දැකගෙන, ඒවායින් කම්පා නොවී සිත කම්පනයට පත් කර නොගෙන විස්සෝප නොවී සමාජමය ප්‍රශ්නවලට නොඇලී, නොගැටී, මුළා නොවී, උපේක්ඛා සිතින් ඒවා ඉවසා විමසා දරාගෙන, ඒවායින් තමන් ද මිදී, ලෝකයාව ද මුදවා ගන්නට නිදහස් වන්නට තම සිත හා මනස සකස් කර ගන්නට පුරුදු පුහුණු වීම බුද්ධ භාවනාවයි.

මේ අනුව ධර්මාවබෝධයක් නැතිව පටිච්ච සමුප්පාද ධර්මාවබෝධයෙන් තොරව, කරන්නන් වාලේ භාවනා කිරීමෙන්, "ධම්මෝ සංදිට්ඨිකෝ, අකාලිකෝ, ඒහි පස්සිකෝ, ඕපනයිකෝ, පච්චත්තං වේදිතබ්බෝ විඤ්ඤූහීති" යනාදී දහම් ගුණයන් එකක්වත් තමන් තුළ පිහිටන්නේ නැත. මේ පදවැල් මිමිනීමෙන් හෝ සජ්ඣායනා කිරීමෙන් හෝ පමණක් දහම් ගුණයන් පිහිටන්නේද නැත. මෙහිදී අනුපූරක පිළිවෙතක් ම අනුගමනය කළ යුතුය. ඒ පිළිවෙත අනුගමනය කර ධර්මාවබෝධය තුළින් නිවන අත්දැක ගත යුතුය.

ලොව පවතින, ක්‍රියාත්මකවන චිත්ත ශක්තිය විශ්ව ශක්තියයි. සියලු ශක්තීන්හි ප්‍රභවයට මුල් වන්නේත් සිතක මතුවන චිත්ත ශක්තියමයි. පිරිසිදු, ප්‍රභාස්වර සිතක මතු වන චිත්ත ශක්තිය සමස්ත ලෝක සත්ත්වයාටම යහපත ළගාකර දෙන ස්වභාවයේ එකක් වන අතර කෙළෙස් සහිත වූ කිළිටි සිතකින් මතුවන චිත්ත ශක්තිය සමස්ත ලෝක සත්ත්වයාටම අයහපත ළගාකර දෙන ස්වභාවයේ එකක් වන අතර කෙළෙස් සහිත වූ කිළිටි සිතකින් මතුවන චිත්ත ශක්තිය නිසා, ඒ කිළිටි ශක්තිය නිකුත් කරණු ලබන පුද්ගලයාගේ ම සිත කිළිටි වීමට අමතරව ආපෝ, තේජෝ, වායෝ, පඨවි යන මහා භූතයන්ද කිළිටි කරවන නිසා සතර මහා භූතයන්ම අනවශ්‍ය ලෙසින් කම්පා කරවන්නට ද ඒ ශක්තියම හේතු වෙයි. ඒ සතර මහා භූතයින්ගේ අනවශ්‍ය කම්පනය, භ්‍රමණය සමස්ත ලෝක වාසීන්ටම අයහපත්, අස්වාභාවික අනිසි ආකාර වූ ප්‍රතිඵල උරුම කර දෙයි.

මිනිස් චිත්තසංථානයකම ගබඩා වී පවතින, මුල් බැසගෙන ක්‍රියාත්මකවන ලෝභය, තන්හාව, රාගය, ද්වේෂය, වෛරය, ක්‍රෝධය වැනි කිළිටි ගති, කෙළෙස් ගති තමන්ගේම සතුරන් ලෙසින් තමන්ටම විරුද්ධව නැගී සිටී. මේ ගති තමා තුළම සැඟවී සිට

සතුරෙකු ලෙසින් තමන්ටම විත කරන බව, තමන්වම විනාශ කරවන බව, තමන්ටම දුක උරුම කර දෙන සියලු දුක් කන්දරාවන්ට ද මුල් වන බව, තම තමන්ටම තේරුම් ගැනීමට නොහැකි වීම මේ ගති තවදුරටත් තමන් තුළම වගා කරගන්නටත් එක ම හේතුවයි. මේ කෙළෙස් ගති තමන් ම තම කැමැත්තෙන් ම ළංකර ගත්, ගන්නා සතුරන් ය. මේ සතුරන් අධ්‍යාත්මිකව තමා තුළම ක්‍රියාත්මක වෙයි. අපායට ගමන් කරවන්නට ද උපකාර වෙයි. කෙළෙස් ගතිවල නියම නිවැරදි ස්වරූපය, ස්වභාවය මෙසේ තේරුම් ගෙන හැකි පමණ ඉක්මනින් සියලු කෙළෙස් සතුරන් තම සිතින් ම ඉවත් කර දමා පිරිසිදු ගති තම සිත තුළම වගාකර ගන්නටත් මනා අවබෝධයක් ඇතිව කටයුතු කිරීම භාවනා කිරීමයි.

සාමාන්‍ය පෘථග්ජන පුද්ගලයෙක් "ලෝකය" යනුවෙන් අදහස් කරන්නේත් හා ලෝකය යැයි අවබෝධ කර ගන්නේත් තමන්ගේ ම ඉන්ද්‍රියයන්ට ගෝචර වන පදපරම දැනුමට හා උගත්කමට අනුව තේරුම් ගත් බාහිර ලෝකයටයි. බුද්ධ දේශණාවේ "ලෝකය" ලෙසින් පෙන්වා දුන් පරමාර්ථ ධර්මයන් පිළිබඳව නිවැරදි හා පිරිසිදු දැක්මක් ලබා ගන්නට නම් තම ඇස, කන, මනස ආදී ඉන්ද්‍රියයන් අනුසාරයෙන් ලබාගන්නා දැනුමට වැඩි දැක්මක් ලෝකය පිළිබඳව ම ලබාගත යුතුය. ඉන්ද්‍රියයන් අනුසාරයෙන් ලෝකය පිළිබඳව ලබන මේ දැනුම අසම්පූර්ණය. එය අනුමාන ඥාණයක් පමණක් නොව තම තමන්ගේම දෘෂ්ඨිය නිසා තමන්ම සිතින් මවාගත් ඌනතා සහිත අන්‍යතාභාවයට නිතර පත්වන්නට හැකි, පුද්ගලයාගෙන් පුද්ගලයාටම වෙනස් වන දැනුමකි. පුද්ගලයාගේ මනසේ ශක්තිය හා පිරිසිදුකම අනුව "ලෝකය" මනින මිම්ම ද වෙනස් වෙයි. මේ මිම්ම, "මානය" අස්මිමානය ලෙසින්ද බුද්ධ දේශණාවෙහි පෙන්වා දෙයි. මම, මාගේ, මගේ ආත්මය යන වැරදි මිනුම - අස්මිමානය - ආත්ම දෘෂ්ඨිය වැරදි එකකි. මම නොවේ, මාගේ නොවේ, මාගේ ආත්මය නොවේ යන්නද අනාත්ම වාදයක් මිස උච්ඡේදවාදයක් මිස බුද්ධ දේශණාවට ගැළපෙන ධර්මයක් නොවේ.

හේතුඵල පරම්පරාවක් - පටිච්චසමුප්පන්න ධර්මතාවයක් පිළිබඳව යම් අවබෝධයක් ලබා ගත් පසුව මෙතෙක් කල් ලෝකය ගැන තිබූ වැරදි අවබෝධය වැරදි නිගමනය වෙනස් වෙයි. "මම යැයි ගැනීමට, මාගේ යැයි ගැනීමට, මාගේ ආත්මය'' යැයි ගැනීමට සුදුසු කිසිවක්ම මෙහි නොවන්නේ ම ය, යන්න හේතුඵල ධර්මතාවය තුළින්ම තේරුම් ගත යුතුය. මම මාගේ යනු එක අන්තයකි. මම නොවේ, මාගේ නොවේ, යනු තවත් අන්තයකි. දිට්ඨ, සුත, මුත, විඤ්ඤාත යන සංසාර ගති පුරුදු නිසාත්, පංචස්කන්ධයම උපාදානය කර ගන්නට ඇති සංසාර පුරුද්ද නිසාත් මෝහය හා අවිද්‍යාවෙන් අතෘප්තිමත්ව ලෝකයට බැඳෙන්නේ කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා සිතක ක්‍රියාත්මකව පවතින නිසාමය.

බුදු දහමෙහි පෙන්වා වදාළ අතීන්ද්‍රිය ඥාණයන්, එනම් බුද්ධ ඥාණයන් ලබා ගත හැකි වන්නේද මිනිසෙකුට ම ය. තමන්ගේම චිත්තසංථානය හා මනස කිළිටි වී, මුවහ වී, මුල් බැස ගෙන පවතින කෙළෙස් ගති සහමුලින්ම උදුරා දමන්නට දක්ෂයෙකු වීමෙන්ම, යළි යළිත් සිතේ කෙළෙස් ගති උපත ලබන ක්‍රමවේදය ආයතනික රටාව සහමුලින්ම උදුරා දැමීම ද කළ හැකිය. මේ බුද්ධ ශක්තියයි . බුද්ධ ඥාණයි. මෙවන් වූ බුද්ධ ශක්තියක්, බුද්ධ ඥාණයන් ලබා ගැනීමද ක්‍රමානුකූලව අනුපූරක වූ ක්‍රියාමාර්ගයකින් ම ලබා ගත යුතුය.

ජානතෝ---පස්සතෝ---අරහතෝ---සම්මා--සම්බුද්ධස්ස යනුවෙන් විග්‍රහ කළේ මේ අනුපූරක පිළිවෙතයි.

බුදු දහමෙහි පෙන්වා වදාළ මෙම බුද්ධ ඥාණයන්, අතීන්ද්‍රිය ඥාණයන් - බුද්ධ ශක්තීන් වෙනත් ආගම් සංකල්පවලින් හෝ දේව ආගම්වලින් හෝ පෙන්වා දුන් ගූඪ අනුභූතියක් හෝ ඊශ්වර නිර්මාණයක් හෝ විශ්ව කර්මයෙකුගේ ක්‍රියාවක් හෝ ආශ්චර්යවත්, අභව්‍යය, අද්භූත බලයකින් ලබා ගන්නා දෙයක් හෝ නොවේ. මෙය

යම්කිසි සංකල්පයක් ද නොවේ. මිනිසෙකුටම තම මනසම මෙහෙයවා යෝනිසෝ මනසිකාරයෙන් ක්‍රියාකර ධම්මානුධම්ම ප්‍රතිපදාවෙහි හැසිරීමෙන්ම ලබා ගත හැකි සම්මා විමුක්තියයි. පිළිවෙතින් පෙළගැසිය යුත්තේ සම්මා විමුක්තිය ලබා ගැනීම සඳහාමය. මේ නිසාම මුල් බුදු දහමෙහි අභිඥා හෝ ධ්‍යානයන් හෝ ඍද්ධි ප්‍රාතිහාර්යන් පෑම හෝ අගය කොට වර්ණනා කර නැත.

මුල් බුදු දහමෙහි ප්‍රඥා විමුක්තියම අෂ්ටාංගික මාර්ගයම අගය කර සංදේශණාව තුළින් "සං" විග්‍රහ කරදී සංසාර ගැටළුව අවබෝධ කර ගැනීමේ පිරිසිදු හා සරළ මෙන්ම නොවරදින මාර්ගයක් පෙන්වා වදාරා ඇති නමුත් බුද්ධඝෝෂ හාමුදුරුවෝ පාලි අටුවාවන් ඉදිරිපත් කිරීමත් සමඟ ඒ උතුම් බුද්ධ ධර්මය යටපත් වී අභිඥා, ධ්‍යාන, ඍද්ධි ප්‍රාතිහාර්යයන් අගය කරන ලෞකිකත්වය තුළින්ම ලබා ගන්නට උත්සාහ කළ, දෙව්, මිනිස් සැප විඳ කෙළවර නිවන් ලබන්නට ප්‍රාර්ථනා කිරීමේ සිරිතක් බෞද්ධ ලෝකයා තුළද ප්‍රචලිත විය. අද දෙව් මිනිස් සැප පතන බෞද්ධයින් මිස නිවන් දකින්නට ක්‍රියා කරන්නන් නැත.

සන්ථාන ගත වූ කෙළෙස්, එනම් චිත්තසංථානයේ තැන්පත් වූ රාග ගති හා ද්වේෂ ගති තාවකාලික වශයෙන් සිතින් යටපත් කර, චේතෝ විමුක්තියට පත්වීමේ ක්‍රමය බොහෝ පෙරදිග ආගම් සංකල්පවලින්ද ප්‍රායෝගිකවම පෙන්වා දෙති. නමුත් මනස මුවහ වී පවතින මෝහ ගති සහමුළින්ම උදුරා දමා රාගය, ද්වේෂය, මෝහය යළි සිතේ නොඋපදවන ලෙසින්ම පිරිසිදු කරගන්නට අනුත්පාද නිරෝධගාමී මාර්ගයක් ඇති බව පෙන්වා වදාළේ බුද්ධ ධර්මයේම පමණි. මේ සඳහා උපකාර වන්නේ ආසවක්ඛයා ඥාණය ලබා ගැනීම මිස ඒ සඳහා වෙනත් කිසිම ක්‍රමයක් ද නැත. බුද්ධ දේශණාවෙන් පෙන්වා වදාළ මේ උතුම් විමුක්ති මාර්ගය යළිත් ලෝකයාට මතුකර පෙන්වා දී නිවන් අවබෝධ කරගන්නට තරම් පින් පිරූ මිනිසුන්ව නිවැරදිම නිබ්බානගාමී මාර්ගයට යොමු කරවීමේ ඒකායන පරමාර්ථයෙන් ම, මේ උතුම් බුද්ධ ධර්මය ලෝකයාට දේශණා කරන්නටත්, ලියා ප්‍රකාශයට පත් කරන්නටත් තීරණය කළෙමි.

මෙය තම තමන් ම ධර්මය අසා දැන, සුතමයේ ඥාණය ලබාගෙන, අනුගමනය කළ යුතු අනුපූරක නිවන් මාර්ගයයි.

**ධ්‍යාන හා මාර්ගඵල**

භාවනාවේ යෙදීමෙන්, භාවනා කිරීමෙන් අද යම් කිසිවෙකු බලාපොරොත්තු

වන්නේ ධ්‍යානයක් ලබා ගැනීමයි. ධ්‍යානයක් ලබා ගැනීම ධ්‍යානයකට පත් වීම යනු යම්කිසි ආකාරයක කෙළෙස් දවාහැරීමක් සිදුවීමයි. මේ දවා හැරීම නිසා සිදුවන්නේ, යමෙකුගේ චිත්තසංථානය තුළ මෙතෙක් ක්‍රියාත්මකව පැවති රාග, ද්වේෂ යන කිළිටි ගති ලක්ෂණයන් තාවකාලිකව දවා හැරීමයි. රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණයන් දවාහැර, ඒවායින් යම් තරමකට නිදහස්වීම නිසා කාය පස්සදිය - කය සංසිඳවීම, වේදනා පස්සදිය - වේදනා සංසිඳවීම, චිත්ත පස්සදිය - සිත සංසිඳවීම සිදුවෙයි.

අනාදිමත් කාලයක පටන්ම විවිධ ආගම්වල, දර්ශනවල විවිධ ක්‍රම මගින් භාවනා කර, ධ්‍යානයක් ලබා ගැනීමේ ක්‍රම උගැන්වීය. බුද්ධ ධර්මයට අනුකූලවද ධ්‍යාන ලබා, මඟඵල ලබා නිවන් අවබෝධ කරගත හැකිය. බුදුපියාණන් බුදු බවට පත්වන්නට පෙර වසර හයක්ම එවකට භාවිතයේ පැවති විවිධ ඉගැන්වීම් ඔස්සේ යමින් දුෂ්කර ක්‍රියා කරමින්, ධූතාංග රකිමින් එවකට භාවිතයේ පැවති සියලු අනරිය ධ්‍යානයන් ලබාගත්හ. එවැනි අනරිය ධ්‍යානයන් ලැබීමෙන් ප්‍රඥා විමුක්තියට පත්වීමක් සිදු නොවූ බව තේරුම්ගත් බුදුපියාණන්වහන්සේ එවන් දුෂ්කර ක්‍රියාවන්ගෙන් වෙන් වී අරිය මාර්ගයම සොයා දැන බුද්ධත්වයට පත්වූහ. එසේ නම් ගෞතම බුදුපියාණන් ස්වයංභූ ඥාණයෙන් තමන්ම සොයා දැන, අනුගමනය කර, තමන්ම අත්විඳි මෙම ධ්‍යානයන් එතෙක් කල් විවිධ ආගම්වල පැවති අනරිය ධ්‍යාන නමින් හැඳින්වූ ධ්‍යානයන් නොවේ. ඊට හාත්පසින්ම වෙනස් අරිය ධ්‍යානයන් කොටසකි. බුදුවරයෙකු ලොව පහළවන්නේම එතෙක් පැවති ලෞකික ක්‍රමයන් වෙනස් කර ඊට හාත්පසින්ම වෙනස් වූ ලෝකෝත්තර අරිය මාර්ගයක් සොයා දැන, ලෝකයාට දේශණාකර පෘථග්ජන ලෝකයා සංසාර දුකෙන් මුදවා ගැනීමේ ඒකායන අභිලාශයෙනි.

බුද්ධ දේශණාවට අනුව අරිය ධ්‍යානයන් හා අනරිය ධ්‍යානයන් ලෙස දෙවිදියක, දෙයාකාරයක ධ්‍යානයන් ඇති බවවත් අද බොහෝ බෞද්ධයින් නොදනිති. අනරිය ධ්‍යානයන් එකක් නොව සියල්ලම (අටම) ලබාගෙන විවිධ හාස්කම් කළ බොහෝ පුද්ගලයින් එදා ජන්බුද්වීපයේ ජීවත් වූ බවත්, අද පවා ලෝකයේ විවිධ තැන්වල ජීවත්වන බවත් සත්‍යයකි. නමුත් පරම පවිත්‍ර බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාළ ප්‍රඥා විමුක්තිය ලබා, අරහත් තත්ත්වයට පත්වීමේ හැකියාවක් ඒ කිසිම අනරිය ධ්‍යානලාභියෙකුට ලැබෙන්නේ නැත. සෝවාන් මාර්ග ඵලය නමැති නිවන් මාර්ගයේ පළමුවන පියවරට පත්වීමට නම් අරිය උත්තමයෙකු බවට පත්විය යුතුමය. සෝවාන් මාර්ගඵලයට පත්වීම යන උතුම් අරිය තත්ත්වයට පත්වීම හා අනරිය ධ්‍යානයන් අටටම පත්වීම යන තත්ත්වයන් දෙක සැසඳීමේ දී සෝවාන් මාර්ගඵලයට පත්වීමේදී ලබන සුවයෙන් කෝටියෙන් එකක් හෝ අනරිය ධ්‍යානයන් අටටම පත්වූ පුද්ගලයා ලබන්නේ නැත. සෝවාන් මාර්ග ඵලයට පත්වූ පුද්ගලයා සදහටම සතර අපා දුකෙන් මිදුණු නියත වශයෙන්ම නිවන් මාර්ගයට පත්වූවෙකි. අනරිය ධ්‍යානයන් අටටම පත්වූ පුද්ගලයා පවා මතු යම් කලක යළි සතර අපා දුකටද පත්විය හැකිය. නමුත් සෝවාන් මඟඵලයට පත්වූ අරිය පුද්ගලයා නියත පරායනයෙන්ම දස්සනේන සම්පන්න වූ මාර්ගඵල ලාභියෙකි.

බුදුපියාණන් කිසි විටෙකත් අනරිය ධ්‍යානයන් ලබාගැනීම වර්ණනා නොකළ බවත් අගය නොකළ බවත් මජ්ඣිම නිකායේ දේවදහ වග්ගයේ එන ගෝපක මොග්ගල්ලාන

සූත්‍රයේ ඉතාමත් පැහැදිළිවම විග්‍රහ කර පෙන්වාදී ඇත. පහත සඳහන් පාඨයෙන් එය මොනවට පැහැදිළි වෙයි.

"ගාරය්හං කිර භෝ ආනන්ද, සෝ භවං ගෝතමෝ
ඣානං ගරහි පාසංසං පසංසි"

භවත් ආනන්දයෙනි, ගෝතම බුදුපියාණන්වහන්සේ ගැරහිය යුතු ලෞකික අනරිය ධ්‍යානයන් නිරන්තරයෙන්ම ගරහති. ප්‍රතික්ෂේප කරති. ප්‍රසංශා කළ යුතු, අගය කළ යුතු අරිය ධ්‍යානයන් හා මාර්ගඵල නිතරම අගය කරති. භාවිතයට අනුදැන වදාරති.

ගැරහිය යුතු අනරිය ධ්‍යානයන් හා ප්‍රසංශා කළ යුතු අරිය ධ්‍යානයන් යැයි ධ්‍යානයන් දෙකොටසක්ම ඇති බව විග්‍රහ කර පෙන්වා වදාළ ගෝතම බුදුපියාණන්වහන්සේ මෙම ගෝපක මොග්ගල්ලාන සූත්‍රයෙහිම මේ අරිය ධ්‍යානයන් හා අනරිය ධ්‍යානයන්හි ගති ලක්ෂණයන් හි ඇති වෙනස්කම්ද විග්‍රහ කර පැහැදිළි කර දේශණා කර වදාළ සේක.

අනරිය ලෞකික ධ්‍යාන විස්තර කරමින්,

"න ඛෝ බ්‍රාහ්මණ සෝ භගවා සබ්බං ඣානං වණ්ණේසි
නාපි සෝ භගවා සබ්බං ඣානං න වණ්ණේසීති"

"කථං රූපංඤ්ච බ්‍රාහ්මණ, සෝ භගවා ඣානං න වණ්ණෙසී ඉධ බ්‍රාහ්මණ, ඒකච්චෝ කාමරාගපරියුට්ඨීතේන චේතසා විහරති, කාමරාගපරේතේන. උප්පන්නස්ස ච කාමරාගස්ස නිස්සරණං යථාභූතං නප්පජානාති. සෝ කාමරාගංයේව අන්තරං කරිත්වා ඣායති, පජ්ඣායති, නිජ්ඣායති අපජ්ඣායති.... එවරූපං ඛෝ බ්‍රාහ්මණ, සෝ භගවා ඣානං න වණ්ණේසි."

බ්‍රාහ්මණය, භාග්‍යවතුන් වහන්සේ සියලු ආකාර වූ ධ්‍යානයන් වර්ණනා නොකරති. කාමරාග, පටිඝ ආදී පංචකාම නිවරණයන්ගෙන් වෙන් නොවූ කෙනෙකු, ධර්මයේ නොපිහිටා, යථා අවබෝධයකින් තොරව, ඇති තතු පිරිසිඳ නොදැන (නප්පජනාති) වඩන ලෞකික වූත්, අනරිය වූත් ධ්‍යානයන් මම කිසිසේත් වර්ණනා නොකරමි. අගය නොකරමි. ඒවා නිවනට උපකාර නොවන, සංසාරයේ අතරමං කරනා ධ්‍යානයෝ පමණකි.

අරිය ධ්‍යානයන් විස්තර කරමින් (ලෝකෝත්තර ධ්‍යානයන්)

"කථංරූපඤ්ච බ්‍රාහ්මණ, සෝ භගවා ඣානං වණ්ණේසී
ඉධ බ්‍රාහ්මණ, භික්ඛු විවිච්චේව කාමෙහි, විවිච්ච
අකුසලේහි ධම්මේහි සවිතක්කං සවිචාරං විවේකජං
පීතිසුඛං පඨමං ඣානං උපසම්පජ්ජ විහරති....
ඒවං රූපං ඛෝ බ්‍රාහ්මණ, සෝ භගවා ඣානං වණ්ණේසිති"

කාමයෙන් වෙන්වූ සිතින් යුතු, අකුසල ධර්මයෙන් වෙන්වූ සිතින් යුතු, භික්ඛු තත්ත්වයට පත්වූ කෙනෙකු ලබන පළමුවන ධ්‍යානයේ පටන්ම මම එය අරිය ධ්‍යානයන් ලැබීම යයි වර්ණනා කරමි. මේ අරිය ධ්‍යානයන් නියත පරායනයෙන්ම විජ්ජා විමුක්තිය සඳහාම උපකාර වෙයි.

කළ යුතු දේ හා නොකළ යුතු දේ පිරිසිඳ දැන (පජානාති) භව බය කිරීමට කැපවී කටයුතු කරන පුද්ගලයා "භික්ඛු" යන නමින් මෙහි නම්කර තිබේ. "භික්ඛු" යනු මහණ, මෙහෙණි, උපාසක, උපාසිකා යන සිවුවනක් පිරිසය. මේ සිවුවනක් පිරිසට අයත් සියලුම අය, ධර්මය අසා, දස්සනේන සම්පන්න වූ, සම්මා දිට්ඨියට පත් වූ ආශ්‍රය කළයුතු හා ආශ්‍රයෙන් බැහැර කර ප්‍රහාණය කළයුතු ධර්මයන් යන දෙකොටසම පිළිබඳ යථා අවබෝධයක් ලැබූ (කාමෙහි විවිච්ච) කාමයෙන් වෙන් වූ සිතින් යුතු (අකුසල ධම්මෙහි විවිච්ච) අකුසල ධර්මයන් සිතින් ඉවත් කරගත් නිවන් මාර්ගයෙහි යන අරිය පුද්ගලයින්ය. ඔවුන් යම් ධ්‍යානයක් වැඩීම නිසා ලබන්නේ අරිය ධ්‍යානයන්ය. එම අරිය ධ්‍යානයන් හා අනරිය ධ්‍යානයන් අතර විශාල වෙනසක් ඇතැයි මම දේශණා කරමි.

ආනාපානසති සූත්‍ර දේශණාව ආරම්භයේම දක්වා ඇති පරිදි, බුදුපියාණන් මෙම සූත්‍ර දේශණාව කරන්නේ "භික්ඛූ"න් සඳහාම බව විශේෂයෙන්ම එහි සඳහන් කර ඇත. (මජ්ඣිම නිකාය අනුපද වර්ගය) "භික්ඛු" යනුවෙන් බුද්ධ භාෂිතයේ යම් තැනක නම් කළේ මහණ, මෙහෙණ, උපාසක, උපාසිකා යන සතර වරිගය සඳහාම බව අංගුත්තර නිකායේ චතුර්ථක නිපාතයේ පැහැදිළිවම සඳහන් කර ඇත. භික්ඛු යන පදයේ තේරුම භව බය කර දමන්නට ඇප කැපවී ක්‍රියා කරන, පූර්වභාග නුවණ පහළ වූ පුද්ගලයා යන්නයි. සිවුරු හැඳ මහණ වූ මහණ හා මෙහෙණි යන කොටස් දෙක පමණක්ම නොව ගිහිගෙයි වාසය කරන භව බය කර දමන්නට ඇප කැපවී ක්‍රියා කරන උපාසක උපාසිකා සියල්ලෝ ද ජාති ආගම් කුල භේදයකින් තොරවම "භික්ඛු" යන නමින් එකල හඳුන්වනු ලැබූහ.

ත්‍රිපිටක ධර්මයෙහි ආනාපානසති භාවනාව පිළිබඳව විවිධ තැන්වල විවිධ ආකාරයෙන් බුදුපියාණන් දේශණාකර පෙන්වා වදාරා ඇත. මජ්ඣිම නිකායේ ආනාපාන සති සූත්‍ර දේශණාව යන නමින්ම විශේෂ දේශණාවක් කර ඇත. මජ්ඣිම නිකායේම ආනාපානසති සූත්‍ර දේශණාවට අදාළවම ගිරිමානන්ද සූත්‍රයේත්, සේවිතබ්බා සේවිතබ්බා සූත්‍රයේත් මෙම කරුණුම දේශණා කර ඇත. සංයුක්ත නිකායේ ආනාපාන සංයුක්තය යැයි මීට අදාළ සූත්‍ර ධර්ම රාශියක්ම දේශණා කර ඇත. ආනාපානසති භාවනාව නිවැරදිව භාවිතා කිරීම, නිවන් මඟට නොවැරදීම උපකාරවන, ඒකායන කෙටිම මාර්ගය බවද බොහෝ තැන්වලදී බුදුපියාණන්ම දේශණා කර වදාරා ඇත.

මෙලෙස බුදුපියාණන් දේශණා කර වදාළ, භික්ඛූන්ට භාවිතා කරන්නට අනුදැන වදාළ ආනාපානසති භාවනාවට අමතරව පෙර අතීතයේ පටන්ම වේද ආගම්වල, ශිව ආගම්වල හා උපනිශද් ආගම්වල පැවත ආ භාවිතා කළ අනුගමනය කළ ආනාපානසති භාවනා ක්‍රමයක්ද එකල භාවිතයේ පැවති බවට පැහැදිළි වන සාක්ෂි ආනාපාන සංයුක්තයේ එන "අරිට්ඨ සූත්‍රයෙන්" මොනවට පැහැදිළි වෙයි. (සංයුක්ත නිකාය - අරිට්ඨ සූත්‍රය)

"අහං බෝ භන්තේ භාවෙමි ආනාපානසතින්ති, යථා කථං පන ත්වං අරිට්ඨ භාවෙසි ආනාපානසතින්ති, අතීතේසු මේ භන්තේ කාමේසු කාමච්ඡන්දෝ පහීනෝ. අනාගතේසු මේ කාමේසු කාමච්ඡන්දෝ විගතෝ, අජ්ඣත්තබහිද්ධා ච මේ ධම්මේසු පටිඝසඤ්ඤා

සුප්පටිවිනිතා. සෝ සතෝව අස්ස සිස්සාමි සතෝ පස්ස සිස්සාමි ඒවං බෝහං භන්තේ භාවෙමි ආනාපානසති"

"අත්ථෙසා අරිට්ඨ, ආනාපානසති නෙසා නත්ථීති වදාමි. අපි ච අරිට්ඨ යථා ආනාපානසති විත්ථාරේන පරිපුණ්ණා හෝති තං සුනාහි......"
"එවං බෝ අරිට්ඨ, ආනාපානසති විත්ථාරේන පරිපුණ්ණා හෝතිති"

අරිට්ඨ අරහතුන් වහන්සේ අරහත් තත්ත්වයට පත්වන්නට පෙර ආනාපානසතිය නම් වූ භාවනාවක් භාවිතා කළ බවත් එය භාවනා කළ නමුත් කිසිම යහපත් ඵලයක් නොලැබූ නිසාත් බුදුපියාණන් හමුවී මේ බව ප්‍රකාශ කර සිටියහ. අරිට්ඨ හිමියන්ගෙන් බුදුපියාණන් කරුණු අසා දැන ප්‍රකාශ කර සිටියේ සම්මතයේ පවතින අනරිය වූත් ලෞකික වූත් ආනාපානසති භාවනාවක්ද ඇති බවයි. ''අරිට්ඨ ඔය ආකාරයේ නිවන් මඟට උපකාර නොවන, ලෞකික ධ්‍යාන ලබාගත හැකි ආනාපානසති භාවනාවක්ද ඇත. එවැන්නක් නැතැයි මම නොකියමි. මම මගේ ශ්‍රාවකයන්ට අනුදැන වදාළ නිර්දේශ කරන ආනාපානසති භාවනාව වෙන එකකි" යනුවෙන් පවසා අරිය ආනාපානසති භාවනා ක්‍රමය විස්තර වශයෙන් දේශණා කර පෙන්වා වදාළහ. "මෙය භාවිතා කර අරිය මඟඵල හා ධ්‍යාන පූරණය කරගන්න. අනරිය වූත්, ලෞකික වූත් ආනාපානසතිය බැහැර කරන්න." යැයි ඉතාමත් පැහැදිළිවම දේශණාකර පෙන්වා වදාළහ.

බුදුපියාණන්වහන්සේද බෝධිසත්ව යුගයේ වසර හයක් තිස්සේම විවිධ දුෂ්කර ක්‍රියා කරමින් අනුගමනය කළේ මෙවන් අනරිය වූත් ලෞකික වූත් නියත ප්‍රතිඵලයක් ලබාගත නොහැකිවූත් ආනාපානසති භාවනා ක්‍රමයකි. එය තමන් වහන්සේම අත්දැක තිබූ නිසාත් එම භාවනා ක්‍රමයන් ප්‍රාණයාම, හතයෝග ආදී විවිධ නම්වලින්ද කසින භාවනා ක්‍රම ලෙසින්ද එවකට ජන්බුද්වීපයේ ප්‍රචලිතව පැවති නිසාත් පැහැදිළිවම මේ ලෞකික භාවනා ක්‍රම බැහැර කළහ. තමන් වහන්සේ වසර හයක්ම අත්විඳි මහා දුක් කන්දරාව තවත් කෙනෙකුට විඳවන්නට ඉඩ නොතබනු පිණිස මෙම පිරිසිදු බුද්ධ ආනාපානසති භාවනාව විග්‍රහකර තම ශ්‍රාවකයින්ට පෙන්වා වදාළහ.

මේ අනුව හැම කෙනෙකුම නිවැරදි ආකාරයට තේරුම් ගත යුත්තේ ආනාපානසති භාවනාවද දෙයාකාරයකින්ම භාවිතා වන බවයි. එකක් ලෞකික අර්ථයෙන් අර්ථ ගැන්වූ පෙර පටන්ම පැවත එන හුස්ම ඉහළ පහළ යාම පිළිබඳ මෙනෙහි කරමින් පිම්බීම හැකිළීම දෙස බලා සිටින අනරිය ආනාපානසති භාවනා ක්‍රමයයි.

අනික ධර්මයෙන් අර්ථ ගැන්වූ කාමයෙන් වෙන්විය හැකි, අකුසල ධර්මයන්ගෙන් වෙන්විය හැකි, සේවනය කළයුතු හා සේවනයෙන් බැහැර කළයුතු ධර්මයන් තේරුම් ගෙන ඒවා ආනාපානය කිරීමේ අරිය භාවනා ක්‍රමයයි. ආන යනු ඇතුළට ගැනීමයි. (ආනයන) පාන යනු පිට කිරීමයි (අපනයන). අස්ස යනු ආශ්‍රය කිරීමයි. පස්ස යනු ප්‍රහාණය කර බැහැර කිරීමයි. අස්සාස පස්සාස යන පද දෙකද හුස්ම ඇතුළට ගැනීම හා පිට කිරීමට මෙන්ම, ඉන්ද්‍රියයන් හයෙන්ම ඇතුළට ගන්නා විවිධ ගති ලක්ෂණ ඇතුළට ගැනීමත් ඉන්ද්‍රියයන් හයෙන්ම පිට කර බැහැර කළයුතු දේ බැහැර කිරීමත් යන

අර්ථයෙනුත් බුද්ධ භාෂිතයේ භාවිතා කළ බව ඉතාම පැහැදිළිය.

හුස්ම ඉහළට පහළට ගැනීම කෙරෙහි පමණක් සිත යොමුකර, කය දෙස බලා සිට සිතට එන අරමුණු සියල්ලම බැහැර කර දැමීමෙන්ද සිත සමථයට පත්වීම සිදුවේ. මේ ආකාරයට සිත සමථයට පත්කර ගැනීම මගින්ද රාග, ද්වේෂ සිතුවිලිවලින් බැහැරව, එවන් අරමුණු යටපත් කර, ධ්‍යානයන් ලබාගත හැකි ක්‍රමයක් ද තිබේ. එය ලෞකික වූත්, අනරිය වූත් බුදුපියාණන් ප්‍රතික්ෂේප කළ ආනාපානසති භාවනා ක්‍රමයයි. මෙහිදී වන්නේ රාග, ද්වේෂ, මෝහ අරමුණු, සිතිවිලි තාවකාලිකව යටපත් කිරීමේ ක්‍රියාදාමයක් සිදුවීම මිස රාග, ද්වේෂ, මෝහ අරමුණු සහමුලින්ම ඉවත්කර දමා "භව" නිරෝධ කරන අරිය ක්‍රමයක් නොවේ. උපාදාන නිරෝධ කර, "භව" නිරෝධ කිරීමේත්, භව නිරෝධ කර ජාති නිරෝධ කිරීමේත් අරිය ආනාපානසති භාවනාව වෙනත් කිසිම ආගමක හෝ දර්ශනයක හෝ භාවිතා කළ එකක්ද නොවේ. පරම පවිත්‍ර බුද්ධ ධර්මය ජීවමාන වීමත් සමගම මතුවී එන භාවිතයට ගත හැකි මෙම ආනාපානසති භාවනා ක්‍රමය භාවිතා කිරීමෙන්ම පමණක් උතුම් නිවන් අවබෝධයද පූර්ණ කර ගත හැකිය. ඒ සඳහා බුද්ධ දේශණාවෙන් ගෙනහැර වදාළ ආනාපානසති සූත්‍ර දේශණාවේත්, ඊට සම්බන්ධ තවත් සූත්‍ර ධර්ම කිහිපයකත් ධර්ම අර්ථයම විග්‍රහකර යථා පරිදි පෙන්වාදී කළයුතු හා නොකළ යුතු යන දෙපැත්තම තේරුම් කර පෙන්වා දිය යුතුමය.

රාග, ද්වේෂ ගති ලක්ෂණයන් තාවකාලිකව දවාහැර, යටපත් කරදමා ලබන ලෞකික වූත්, අනරිය වූත් ධ්‍යානයන් ලැබීමෙන් නිවන් අවබෝධය සඳහා මාර්ගඵල පූර්ණ කර ගැනීම හෝ ප්‍රඥා විමුක්තියට පත්වීම හෝ සිදුවන්නේ නැත. පරම පවිත්‍ර බුද්ධ ධර්මය අසාදැන, තේරුම් ගෙන තම තමන්ගේම සිත් කිළිටි වන්නේත්, තමන්ගේ සිත තුළට රාග, ද්වේෂ, මෝහ අරමුණු ඇතුලු කරගන්නේත්, තම කැමැත්තෙන්ම බවත් ඒ කැමැත්ත අවිද්‍යාව නිසා නොදන්නාකම නිසා තමන්ම ඇති කරගත් තණ්හාව බවත් තේරුම් ගත යුතුය.

බුදුපියාණන් දේශණා කර වදාළ ආනාපානසති සූත්‍ර දේශණාවේ එන මුල් පේළි හතර ගෙන සළකා බැලුවොත්,

දීඝංවා අස්සසන්තෝ දීඝං අස්සසාමීති පජානාති
දීඝංවා පස්සසන්තෝ දීඝං පස්සසාමීති පජානාති
රස්සං වා අස්සසන්තෝ රස්සං අස්සසාමීති පජානාති
රස්සං වා පස්සසන්තෝ රස්සං පස්සසාමීති පජානාති

මෙහි "පජානාති" යනුවෙන් වචනයක් භාවිතාකර ඇත. මෙහි විරුද්ධ පදය "නප්පජානාති" යන්නයි. අරිය භාවනා ක්‍රමය තේරුම් ගැනීමේදී පජානාති යන පදය ඉතාමත් වැදගත් පදයකි. පජානාති, පරිජානාති, පරිජානං යන පදවල තේරුම පිරිසිඳ දැන ගැනීම යන්නයි. ඇත්ත ඇති සැටියෙන් දැන ගැනීම යන්නයි. ධර්මය අසා දැන, ඇත්ත ඇති සැටියෙන් තේරුම් නොගත් කෙනෙකුට මෙම අරිය ආනාපානසතිය නිවැරදිව භාවනා කළ නොහැකිය. සත්‍යය අවබෝධ කරගත්, දස්සනේන සම්පන්න වූ සම්මා දිට්ඨියට පත්වූ පුද්ගලයා අරිය ධ්‍යානයක් වඩන්නට ද සුදුසු වූ කෙනෙකි. "පජානාති" යන්නෙහි තේරුම එයයි.

ධ්‍යානයක් ලබා ගත් කෙනෙකුට ධ්‍යාන ක්‍රියාකාරීත්වය පවත්වා ගත හැකි වන්නේ ධ්‍යානයකට සමවැදී සිටින කාලපරාසයක් තුළදී පමණකි. ධ්‍යානයකට සමවැදුණු ධ්‍යානලාභියාට රාග, ද්වේෂ යන කෙළෙස් කොටස් දෙක තාවකාලිකව යටපත් කර කෙළෙස් දවා හැර යම් සුවයක්, සහනයක් ලබා ගත හැකි වන්නේ ඒ ලබාගත් ධ්‍යානයට සමවැදී කාලය ගත කරන අවස්ථාවන්හි දී පමණි. ධ්‍යානයට සමනොවැදුණු අවස්ථාවන්හිදී ධ්‍යානලාභියා තුළද මෝහය ක්‍රියාත්මක වන නිසා රාගයෙන් ද්වේෂයෙන් කටයුතු කිරීමේ සංසාර පුරුද්ද යළි පණ ගැන්වී, නැවතත් පෘථග්ජන පුද්ගලයෙකු බවටම ඔහු පත් වෙයි. මේ අනුව ධ්‍යාන සුවය ලෞකිකත්වය තුළින්ම ලබා ගන්නා ලෞකික සුවයක් මිස ලෝකොත්තර නිවන් සුවය නම් නොවේ.

සම්මා දිට්ඨියට පත් වූ ශ්‍රැතවත් අරිය ශ්‍රාවකයා ලබන ඵල සමාපත්තිය හා ධ්‍යාන ලාභියෙකු ධ්‍යානකට සමවැදීමෙන් ලබන ධ්‍යාන සුවය යනු දෙයාකාර වූ තත්ත්වයන් දෙකකි. ධ්‍යානලාභියෙකුට සම්මාපත්තියකට සමවැදීමේ හැකියාවක් නැත. සමාපත්තියට සමවැදෙන්නට නම්, "ධම්මෝ සංදිට්ඨිකෝ " තත්ත්වයට ම පත්ව, "සං" වලින් මිදී නිදහස් වන ක්‍රමය ද තේරුම් ගත් " සම්මා" අංගයන් සම්පූර්ණයෙන් ම අවබෝධ කරගත්, ශ්‍රැතවත් අරිය පුද්ගලයෙක් විය යුතුයි. ධ්‍යානයකට සමවදින්නට ඕනෑම පෘථග්ජන පුද්ගලයෙකුටත් හැකිය.

ධ්‍යාන ක්‍රියාකාරීත්වය ධ්‍යානයට සමවැදුණු කාල සීමාවට පමණක් ම සීමා වන අතර මාර්ග ඵල සමාපත්තියට පත් වූ අරිය උත්තමයන් වහන්සේ කෙනෙකු තම ඉතිරි මුළු ජීවිත කාලයමත් නිවන් අවබෝධය සම්පූර්ණ කරගන්නා තුරුම මතුවටත්, සම්මා දිට්ඨියෙන් යුතුව ම කාලය ගෙවයි. ඒ අනුව රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් මිදී නිදහස් වීම යන අර්ථයෙන්ම සම්මා දිට්ඨියද, සමාපත්තිය ද, ඵලසමාපත්තියද යන සියල්ලම එකම ක්‍රියාකාරකමකි. නමුත් ධ්‍යානය යන්න මීට වඩා වෙනස්ය. ධ්‍යානයක් ලැබීමේදී රාගය හා ද්වේෂය යන කෙළෙස් ගති දෙක පමණක් තාවකාලිකව දවා හැර, කෙළෙස් යටපත් කර ගැනීම සිදු වේ.

"යෝ පටිච්ච සමුප්පාදං පස්සති සෝ ධම්මං පස්සති" යනුවෙන් පෙන්වා වදාළ පටිච්ච වීම හා සං උත්පන්න වීම - සං උදයවීම දැක නොගත් කෙනෙකුට, ඵල සමාපත්තියට සමවැදීමට ද නොහැකිය. සමුදය නිරෝධ කරමින්, නිරෝධගාමී පටිපදාවෙන්ම කාලය ගෙවිය හැක්කේත් චතු අරිය සත්‍යයන්ම අවබෝධ කරගත් අරිය උත්තමයෙකුට පමණි.

අධ්‍යාත්මික වශයෙන් තමා තුළින් තමන්ම ලබා ගන්නා චෛතසික පාරිශුද්ධතාවයත්, මානසික පාරිශුද්ධතාවයත් යන දෙකම ලබා ගන්නට නම් සීලයෙන් සංවරවීමත්, සමාධියෙන් සංසිඳවීමත්, ප්‍රඥාවෙන් සම්මා අංගයන් සම්පූර්ණ කර ගැනීමත් යන තුන් ආකාර වූ ප්‍රතිපදාව ම භාවිතා කරන්නට පුරුදු පුහුණු විය යුතුමය. සිත හා මනස යන දෙකම සංවර වන්නේ ඉන්ද්‍රියයන් සංවර කරගත් පසුවමය. ඒ සමගම ජීවිතයේ එදිනෙදා කරන, කියන, හිතන සාමාන්‍ය කටයුතුද, ඇවතුම් පැවතුම් ද, කල්කිරියාවන් ද,

බාහිර හැසිරීම් රටාව ද, ආකල්පයන් ද විශේෂයෙන් ම ලෝකය පිළිබඳව මෙතෙක් පැවති දෘෂ්ඨිය ද, දැක්ම ද වෙනස් වී, යහපත් අතට හැරී, භාවනාවෙහි නියම සුවය, සහනය අත්විඳ ගන්නටත් හැකි වෙයි.

මේ අනුව බුද්ධ ධර්ම විග්‍රහයේ "භාවනා" යන පදයෙන් විග්‍රහකර පෙන්වා වදාළ ගාම්භීර පිළිවෙත් සමූහය හා වෙනත් පෙරදිග ආගම්වල පෙන්වා දුන් ධ්‍යානයන් ලබා ගැනීමේ පිළිවෙත එකක් නොව පිළිවෙත් දෙකක් බව පැහැදිළිවම හා පිරිසිදුවම වෙන් කොට අවබෝධ කර ගත යුතුය. ගල් පිළිමයක් සේ එක තැනකට වී, නොසෙල් වී, සමාජයෙන් වෙන් වී, කැලයකට ගොස් ශරීරය - කය භාවිතයට පුරුදු පුහුණු කිරීම අනරිය ක්‍රමයයි. මෙහිදී තම හුස්ම රැල්ල දෙස බලා සිටීම, අස්වාස ප්‍රස්වාස කිරීම දෙස අවධානයෙන් බලා සිටීම, බඩ පිම්බීම, බඩ හැකිළීම දෙස අවධානයෙන් බලා සිටීම, වායෝ කසින භාවනාවකි. වායෝ කසිනය ඇතුලු කසින භාවනා ක්‍රම දහයක්ම විසුද්ධි මාර්ගයෙහි පෙන්වා දී ඇත. ධ්‍යානයක් ලබා ගැනීමට මේ කසින භාවනා ක්‍රම භාවිතා කිරීම ප්‍රමාණවත් බව අපිදු පිළිගනිමු. නමුත් බෞද්ධයින් ලෙස ඒකායන පරමාර්ථය වන්නේ ධ්‍යානයන් ලබා ගැනීම නොව මඟඵල ලබා ගැනීමයි. බුද්ධ දේශණාවෙන් පෙන්වා වදාළ "දස අනුස්සති" භාවනා ක්‍රමයන් භාවිතා කිරීමෙන් මිස වෙනත් කිසිම අනරිය කසින භාවනා ක්‍රමයකින් විපස්සනා, අනුපස්සනා භාවනාවක් සිදු නොවන අතර කෙළෙස් ප්‍රහාණය කිරීමක් සිදු වන්නේ ද නැත. සමථ භාවනාවකින් කෙළෙස් තාවකාලිකව යටපත් වන අතර විපස්සනා, අනුපස්සනා භාවනාවකින් කෙළෙස් සහමුළින්ම උදුරා දමා, නික්ලේශී සිතක් හා මනසක් ඇති කර ගත හැකි වෙයි.

වෙනත් කිසිම ආගමක දර්ශනයක හෝ විද්‍යාවක හෝ පෙන්වා දී නැති නමුත් බුද්ධ ධර්මයෙහිම පමණක්ම පෙන්වා වදාළ ආසවක්ඛයා ඥාණය ලබා ගැනීමෙන් මිනිසෙකු ලෙසින් උපත ලැබූ කෙනෙකුටම පමණක් ප්‍රඥා විමුක්තියට ද පත්විය හැකිය. ආසවක්ඛයා ඥාණය උපකාර වන්නේ, මෙතෙක් සංසාර රිය ගමනට (ආහාර) ඉන්ධන සැපයූ දිට්ඨාසව, කාමාසව, භවාසව හා අවිද්‍යාසව යන ආසව, අනුසය කෙළෙස් කොටස් සහමුළින්ම ප්‍රහාණය කරදමා, සිත හා මනස යන දෙකම පිරිසිදු තත්ත්වයට පත්කර ගන්නටය. ආසවක්ඛය කිරීමේ, ආසව සහමුළින්ම ගළවා, කපා දැමීමේ ඥාණ ශක්තිය ලබා ගත් තැනැත්තාට තම සිත තුළින් අභ්‍යන්තර වශයෙන් උපත ලබන සියලුම කෙළෙස්ද, ආගන්තුක වශයෙන් චිත්තසංථානයට බාහිර වශයෙන් ඇතුලු වන්නට එන සියලු කෙළෙස් ද සහමුළින්ම කපාහැර, චිත්තසංථානය හා මනස යන දෙතැන ම එකවර පිරිසිදු කරගත හැකි වෙයි.

රාගක්ඛය කළ හැකි වෙයි. ද්වේෂක්ඛය කළ හැකි වෙයි. මෝහක්ඛය කළ හැකි වෙයි. කම්මක්ඛය කළ හැකි වෙයි. ඒ අනුව ආසවක්ඛය කළ හැකි වෙයි. අනුසයක්ඛය කළ හැකි වෙයි. මේ සුවිශේෂි බුද්ධ ඥාණය සම්පූර්ණ කර ගන්නට උපකාර වන්නේ, පටිච්චසමුප්පාද ධර්මාවබෝධය මිස ධ්‍යානයන් ලැබීම නොවේ. හය වසරක් ම නොවිඳිනා දහදුක් විඳ එදා සම්මතයෙන් විමුක්තිය ලෙස සැළකූ ධයානයන් අටමත් ලබාගත් සිද්ධාර්ථ බෝසත්තුමා තමන් ලබාගත් මේ ධ්‍යානයන්ගෙන් කිසිසේත්ම සෑහීමකට පත් නොවීය. තමන් සෙවූ ප්‍රඥා විමුක්තිය, නිවන මේ ධ්‍යානයන්ගෙන් ලබා ගත නොහැකි බව පසක්

කොට දැක පස්වග තවුසන් ද අත්හැර ගයා බෝධීන් වහන්සේ අසළදී අවබෝධ කරගත්තේ, පටිච්චසමුප්පාද ධර්මයයි. ලැබූ පටිච්ච සමුප්පාද ධර්මාවබෝධය නිසාම පුබ්බේනිවාසානුස්සති ඥාණයද උපදවා පහදා ගත්හ. ඒ අනුව ආසව, අනුසය කපාහැර දමා සංයෝජන ප්‍රහාණය කර දමා ප්‍රඥා විමුක්තියට ම පත්වූහ. බුද්ධත්වයට ම පත්වූහ.

* * * * * * * * * *

# "බුද්ධ භාෂිතයේ පිරිසිඳ දැකීම"

## ඥාණය හා ප්‍රඥාව

ජානතෝ, පජානතෝ, සම්පජානතෝ, සති සම්පජානාති වැනි පද රාශියකින්ම බුදුපියාණන් දේශණා කර පෙන්වා වදාළේ "නිවන් දැකීම සඳහා පළමුව ධර්මය අසා, දැනගත යුතු දේ නිවැරදිවම දැන ගත යුතුයි" යනුවෙනි. "ජානතෝ" යන දැනීම ලැබූ කෙනෙකුට දෙවන පියවර වන "පස්සතෝ" යන ප්‍රතිපත්ති මාර්ගය ද අනුගමනය කළ හැකි වේ. ධර්මය නොදැනගත් කෙනෙකුට, දුකෙන් නිදහස් වීමට නිවනට උපකාර වන මෙම ප්‍රතිපත්ති මාර්ගය අනුගමනය කිරීම කළ නොහැක්කකි. "පස්සතෝ" යනු දැකීම, ප්‍රඥාව යන ගැඹුරු අර්ථයක් බව මෙතනදී නිවැරදි ලෙසින්ම තේරුම් ගත යුතුය. ජානතෝ යනු දැනීම, එනම් ඥාණයයි. පස්සතෝ යනු පිරිසිඳ දැකීම, ප්‍රඥාව යන අදහසයි. ලබාගත් දැනීම තුළින්ම දැකීමක් ලබා ගැනීමට නම් ''පජහති, පහානාති'' යන පියවර දෙකක්ම අනුගමනය කළ යුතුය. "පජහති, පහානාති" යන පදවලින් ධර්මයේ අර්ථ ගැන්වූයේ, ප්‍රහාණය කළ යුතු, බැහැර කළ යුතු, ඉවත් කළ යුතු, අතහැරිය යුතු දේ යන අදහසයි. මෙසේ අත්හැරිය යුතු බැහැර කළ යුතු දේ කළු ධර්ම ලෙස විග්‍රහ වේ.

කළු ධර්ම, කෙළෙස් හෙවත් රාග, ද්වේෂ, මෝහ යනු කිළිටි ගති තුනකි. රාග ගතිය - රාග බව, ද්වේෂ ගතිය - ද්වේෂ බව, මෝහ ගතිය - මෝහ බව සත්ත්වයා සංසාරයේ අතරමං කරන කෙළෙස් කළු ධර්ම ලෙස හැඳින්වේ. මේ කළු ධර්ම තම තමන්ම උපත් ගණනාවක් තුළ දිගින් දිගට ම එකතු කර, ගබඩා කර, තමාම භාවිතා කරමින් අදටත් පැවතීම ජීවත් වීම යනුවෙන් අදහස් කෙරේ. පුද්ගලයෙකු ජීවිතය පවත්වන්නේම කළු ධර්ම එකතු කිරීම සඳහාමයි. කළු ධර්ම කෙළෙස් එකතු කර, ගබඩා කර තම චිත්තසංථානයේම ඒවා රැඳී පවතිනා තුරාවටම විඤ්ඤාණය කුඩු තනමින් ජීවත් වේ. මේ ක්‍රියාදාමය හේතුඵල පරම්පරාවක් ලෙසින් බුදුපියාණන් වහන්සේ ඉතාමත් සරළ ලෙසින් විග්‍රහ කර පෙන්වා වදාළහ.

මේ දැනීම හෙවත් ජානතෝ යන නුවණ බාහිර ලෝකයාගෙන්ම අසා, එකතු කර ලබා ගත යුතුයි. පොත් පත් කියවීමෙන්, ධර්මය දේශණා කරන කෙනෙකුගෙන් ධර්මය ශ්‍රවණය කිරීමෙන්, යම් යම් දේ ඇසින් දැකීමෙන්, කනෙන් ඇසීමෙන්, දිවෙන්, නාසයෙන්, කයෙන් රස විඳීමෙන්ම මේ දැනුම ලබා ගත හැකියි. ලබාගත යුතුයි. වෙනත් ක්‍රමයකින් දැනුමක්, උගත්කමක්, නුවණක්, බුද්ධිමත්කමක් ලබා ගත නොහැකියි.

මේ ඥාණය, දැනුම යනු ප්‍රඥාවම නොවේ. ප්‍රඥාව යනු ඊට හාත්පසින්ම වෙනස් වූ දෙයකි. ප්‍රඥාව බාහිර ලෝකයෙන් ලබාගත හැකි එකතු කරගත හැකි දෙයක් නොවේ. ප්‍රඥාව යන ශක්තිය මිනිසෙකුට ලැබෙන්නේම තම තමා තුළින්ම අධ්‍යාත්මිකව මනින්ද්‍රියෙනි. එසේ නැත්නම් තමාගේම මනසෙනි. මනස පිරිසිදු වූ තරමට කෙළෙස් වලින් තොර වූ පමණට මනසේ ශක්තියත් බලවත් වේ. මනස පිරිසිදු නම් කෙළෙස් වලින් තොර නම් ඒ පුද්ගලයාට මසැසින් (චක්ඛු) දකින දේට වැඩි යමක් මනසින් දැක ගත හැකියි. මනස අපිරිසිදු නම් කෙළෙස් වලින් අඳුරු වී, කිළිටි වී, ආවරණය වී ඇතිනම් එවන් තත්ත්වයක් යටතේ ප්‍රඥාව යන ශක්තිය මතු නොවේ.

මේ අනුව ඥාණය හා ප්‍රඥාව අවස්ථා දෙකක් බවත් මුලින්ම නිවැරදිව තේරුම් ගත යුතුයි. සුතමයේ ඥාණය, චින්තාමයේ ඥාණය, භාවනාමයේ ඥාණය ලෙස කොටස් තුනකි. ඒ වාගේම සුතමයේ පඤ්ඤා, චින්තාමයේ පඤ්ඤා, භාවනාමයේ පඤ්ඤා යනුවෙන් ප්‍රඥාවේත් කොටස් තුනක්ම විග්‍රහ වේ. ඥාණයෙන් සිදු කරනු ලබන්නේ මේ විශ්වය තුළ ඇති විවිධ ආකාර වූ ක්‍රියාකාරීත්වයන් හා දේ පිළිබඳව දැනුම එකතුකර තමන් තුළම දැනුම ගබඩා කර ගැනීමයි. එය උගත්කම, බුද්ධිමත්කම, නුවණ ලෙස හැඳින්වේ. මේ උගත්කම, දැනුවත්කම නිසා කෙනෙකුගේ මානය, මහත්තත්තකම, මමත්වය වැඩි දියුණු වේ. මේ නිසා බෙහෝවිටදී මිනිසුන් දැනුමින් මත් වීම සිදු වේ. "බුද්ධිමත්" යනු "බුද්ධියෙන් මත් වූ" යන තේරුමයි. මාන මත, අවිද්‍යා මත, අස්මිමානය මේ මත්වීමට හේතුවයි. ඉගෙන ගත් දේ, එකතු කර ගත් දැනුම හොඳ, නරක දෙකටම එක සේ හේතු වේ. ඒ එකතු කර ගත් දැනුමම භාවිතා කර එකතු කර ගත් දැනීමෙන්ම තමන් තුළම මෙතෙක් කල් ගබඩා වී, මුල් බැස ගෙන ක්‍රියාත්මක වූ කළු ධර්ම ඉවත් කිරීමේ ශක්තිය ප්‍රඥාව ලෙස දැනගත යුතුයි.

ප්‍රඥාව දුර්වල කෙනෙක් නිතරම තමාම එකතු කරගත් දැනුමෙන්ම මත් වේ. මනස පිරිසිදු කරගත් කෙනෙකුට ප්‍රඥා ශක්තිය මතුවීම නිසා කොතරම් දැනුම එකතු කර ගත්තද එයින් කිසිවිටෙකත් මත් නොවේ. ඒ දැනුම, ඥාණය තමන්ට වාගේම බාහිර ලෝකයාටත් නිරන්තරයෙන්ම යහපත සඳහාම ප්‍රඥාවන්තයා භාවිතා කරනු ලබයි. ප්‍රඥාව දියුණු කරගත් කෙනෙකුගේ මනස කිසිවිටකත් මත් නොවීම නිසාම ඔහුගේ මානය අල්පයි. අස්මිමානය, උච්චමානය, අභිමානය, සදිසිමානය, හීනමානය වැනි මාන ගති එම පුද්ගලයා තුළින් මතු නොවේ. ඒ වෙනුවට නිහතමානී තත්ත්වයටම පත් වීම සිදු වේ. කම්පාවට, භයට, තැති ගැනීමට හේතුව ප්‍රඥාව නොමැති වීමයි.

උතුම් බුද්ධ ධර්මයේ පෙන්වා වදාළ ධම්මානුධම්ම පටිපදාවෙන් මිස වෙනත් කිසිම ආගමක, දර්ශනයක ප්‍රඥාව යන උතුම් ශක්තිය ලබාගන්නා ආකාරය විග්‍රහ කර පෙන්වා දී නැත. ප්‍රඥාව යන උතුම් වචනය නම් බොහෝ ආගම්වල අදත් පාවිච්චි කළද එය ඥාණය යන එකතු කිරීමේ අර්ථයෙන්ම භාවිතා කරනු හැර පිරිසිඳ දැකීම යන ධර්ම අර්ථයෙන් භාවිතා කරන බවක් දැකිය නොහැකියි. බුද්ධ දේශණාව යනු පරම පවිත්‍ර ලෙසින් ලොව්තුරා බුදු කෙනෙකුම දේශණා කරන උතුම් ධර්මය යි. මිනිසෙකුට, දෙවියෙකුට නිවන් අවබෝධ කර ගත හැක්කේ ප්‍රඥාවෙන්ම පමණි. හැමවිටම බුද්ධ ඥාණයකට පදනමත් ප්‍රඥාවමයි. තෙසැත්තෑ බුද්ධ ඥාණ විග්‍රහ කර බැලීමෙන් මේ බව අවබෝධ කරගත හැකියි. සෑම බුද්ධ ඥාණයකම මුල් කොටසින් පඤ්ඤා යන පදයෙන් විග්‍රහ කර ඇත්තේ ප්‍රඥාවයි. කෙළෙස්, කුණු, කළු ධර්ම ප්‍රහාණය කර පිරිසිදු මනසක් මතු කර ගැනීමේ ශක්තිය ප්‍රඥාව ලෙස හැඳින්වේ. මේ අනුව ඥාණයෙන් තොර ප්‍රඥාවක් හෝ ප්‍රඥාවෙන් තොර බුද්ධ ඥාණයක් හෝ කිසිවෙකුට ලබා ගැනීම කළ නොහැකියි.

ප්‍රඥාව සහ ඥාණය යන පද දෙකෙන් බුද්ධ භාෂිතයෙහි පෙන්වා වදාළ " ජානතෝ පස්සතෝ" යන තත්ත්වයන් දෙක පළමුව නිවැරදිවම තේරුම්ගත යුතුයි. මේ දෙයාකාරයක පියවරයන් දෙකකි.

පඤ්ඤා යන තත්ත්වය ඥාණය යන දැනීමට වඩා හුඟාක්ම පිරිසිදුයි. ප්‍රබල යි.

කෙනෙකුට ප්‍රඥාව මතු කර උපදවා පහදා ගැනීමටත් හුඟාක්ම අපහසු යි. අමාරු යි. චක්ඛුං උදපාදි, ඥාණං උදපාදි, පඤ්ඤා උදපාදි යන අනුපිළිවෙලේ සඳහන් මුල් පියවර දෙකක්ම සම්පූර්ණ වූ විට පමණක්ම ප්‍රඥාව උපදවා පහදා ගැනීමට ශක්තිය ලැබේ. ඕනෑම පුද්ගලයෙකුට පොත් පත් කියවීමෙන්, විශ්ව විද්‍යාලයක අධ්‍යාපනය හැදෑරීමෙන්, මුදල් වියදම් කර දේශ දේශාන්තරවල සංචාරය කිරීමෙන් දැනුම, ඥාණය, ලබා ගත හැකියි. නමුත් ප්‍රඥාව ඒ ආකාරයට ලබා ගත හැකි දෙයක් නොවේ. ප්‍රඥාව ලබාගැනීමට නම් තමන්ගේ මනසෙහි, චිත්තසංථානයෙහි ගබඩා වී පවතින කිළිටි ගති, කෙළෙස් ප්‍රහාණය කර පිරිසිදු කරගත යුතුයි.

මේ ක්‍රියාවලිය බුද්ධ භාෂිතයෙහි පැහැදිළි කර පෙන්වා දී ඇත්තේ "ආසවක්ඛයා" යන පදයෙනි. දිට්ඨාසව, කාමාසව, භවාසව, අවිජ්ජාසව යන ආසව හතර වර්ගයක් හා දිට්ඨි අනුසය, විචිකිච්චා අනුසය, කාමරාගානුසය, භවරාගානුසය, පටිඝානුසය, මානානුසය හා අවිජ්ජානුසය යන අනුසය කොටස් හතකුත් අවස්ථා හතරකදී ක්‍රමානුකූලවම ප්‍රහාණය කර, ඉවත් කර, ප්‍රඥාවෙන් චිත්තසංථානය පිරිසිදු කරගත යුතුමයි.

නුවණ, ඥාණය, දැනුම යන දේ එකතු කර, හිත දියුණු කර, සංවර්ධනය කරගත හැකිය. නමුත් ප්‍රඥාව ඒ ආකාරයට යමක් එකතු කර දියුණු කර, සංවර්ධනය කර ගත හැකි දෙයක් නොවේ. පඤ්ඤා යනු තමා තුළම ඇති යම් යම් අනවශ්‍ය කොටස්, කෙළෙස් ඉවත් කිරීම නිසා මනස පිරිසිදු කර ගැනීමකි. අපිරිසිදු මනසක නුවණ මිස ප්‍රඥාවක් නොපවතී.

නුවණ, ඥාණය, දැනුම දිනපතාම පවා නවීකරණය කර, අලුත් කර, වෙනස් කර ගත හැකියි. ප්‍රවෘත්ති පත්‍ර කියවීම, රූපවාහිණියක් නැරඹීම දැනුම වෙනස් වීමට, අලුත් වීමට හේතු වේ. ප්‍රඥාව එසේ අලුත් වන වෙනස් වන දෙයක් නොවේ. පිරිසිදු වීමක් ම පමණි.

නුවණ, දැනුම, ඥාණය නිතරම විෂයානුබද්ධයි. මහාචාර්යවරයෙකුගේ දැනුම ඔහුට අදාළ විෂය පථයට පමණක් සීමා වේ. නමුත් ප්‍රඥාව එසේ විෂය පථයකට අයත් වන දෙයක් නොවේ. ඊට හේතුව එකතු කර ගත් දෙයක් ප්‍රඥාවේ නොපැවතීමයි.

ඒ වාගේම නුවණ, දැනුම, ඥාණය ලෞකිකයි. භෞතිකයි. මේ ලෝකය තුළ පවතින දේවලට පමණක්ම සීමා වූ දැනුමක් පමණක් එයින් ලබා ගත හැකියි. නමුත් ප්‍රඥාව ඒ ආකාරයට ලෞකිකත්වයට හෝ භෞතිකත්වයට හෝ බැඳුණ දෙයක් නොවේ. එය පිරිසිදු වීමකි. එසේම ලෝකෝත්තර ඥාණයන් යනු හදාගත් භාවිතා කරන ලෝකයෙන් එතෙර වන්නටම උපකාර කරගත හැකි ඥාණයි. ඒවා ප්‍රඥාවෙන්ම මතු කර උපදවා, පහදාගත යුතු බුද්ධ ඥාණයන් වේ.

නිවන් දකිනවා මිස නිවන පිළිබඳව දැනීමක් ලබා ගත් පමණින්ම ඒ දැනීම විමුක්තියට ප්‍රමාණවත් නොවේ. ඒ නිසා නිවන් දුටු අරහතුන්වහන්සේත් පළමුවෙන්ම අරිය උත්තමයෙකුගෙන් බුද්ධ ධර්මය අසා, අනුමාන ඥාණයක් හා ශ්‍රද්ධාවක් සිතේ පහළ කරගත යුතුයි. එසේ සිතේ පහළ කරගත් අනුමාන ඥාණය හා ශ්‍රද්ධාව යන දෙකම තමන් එකතු කරගත් බාහිරයෙන් ලබා ගත් දේය. ඒ දැනුම, උගත්කම හා ශ්‍රද්ධාව නොලැබුණා නම්, කිසිදාක ප්‍රඥාවෙන් බුද්ධ ඥාණයන් මතු කර අරහත් තත්ත්වයට පත් වීමටත්

නොහැකියි.

මෙහිදී "පඤ්ඤා" යන පදයෙන් පෙන්වා වදාළ "පස්සති" යන පදයෙන් විග්‍රහ කරන ලද ප්‍රඥාව ඒ ඒ පුද්ගලයා තමා තුළින්ම ආධ්‍යාත්මික වශයෙන්ම මතු වන උපදවා, පහදා ගත යුතු ශක්තියකි. තමාගේම චිත්තසංථානයේ අනන්ත අප්‍රමාණ කාලයක පටන් ගැබ් වී, ගබඩා වී පවතින, දැනටත් ක්‍රියාත්මකවන ආසව, අනුසය ධර්මයන් වෙන් කොට දැකීමත් එවැනි ආසව, අනුසය ප්‍රහාණය කර, අස්කර, බැහැර කර, ඉවත් කළ යුතුයි යන තීරණයත්, ආසව, අනුසය ඉවත් කිරීමේ මග අනුගමනය කිරීමත් යන අවස්ථා තුනම මේ ප්‍රඥාවේ ශක්තියයි. මේ ප්‍රඥාවේ ශක්තියම "සන්නිට්ඨති, සංනිසීදති, එකෝධි භාවං සංමාදියති" ලෙස " ද්වේධා විතක්ක සූත්‍රයේ දී" පැහැදිළිව ම දේශණා කර පෙන්වා වදාරා ඇත.

තවදුරටත් විග්‍රහ කර බැලූ විට ප්‍රඥාව යනු ප්‍රායෝගික පුහුණුවකි. ප්‍රායෝගික පුහුණුවක් ලැබීමට පෙර කෙනෙකු න්‍යායාත්මකව දැනුමක් ලබා ගත යුතුයි. ඒ නිසා ඒ න්‍යායාත්මක දැනුම, ඥාණය ලෙස හැඳින්වේ. ප්‍රායෝගික අත්දැකීම, පුහුණුව, ප්‍රඥාවයි. ඒ නිසා ධම්මානුධම්ම පටිපදාව යන ප්‍රායෝගික පුහුණුව නොමැතිව ප්‍රඥාව උපදවා පහදා ගැනීමටත් නොහැකියි. මුළු ත්‍රිපිටක ධර්මයම කටපාඩම් කර ගත්තද, ගිරවකු සේ අනෙකාට කටපාඩමෙන් කියා දී ප්‍රකාශ කළ හැකි වුවද, මතක තබාගෙන ධර්මය දේශණා කළ ද ප්‍රායෝගිකවම එම ධර්මයේ පෙන්වා වදාළ ධම්මානුධම්ම පටිපදාව තම තමන්ම අනුගමනය කර, අත්විඳ නොගත්තේ නම් ප්‍රඥාව උපදවා පහදා ගත නොහැකියි. ඒ නිසා නිවන් දකිනවාය යනු සීල, සමාධි, ප්‍රඥා යන පියවර තුනම දැන, අනුගමනය කර, අත්දැක ගැනීමම මිස දැන ගැනීම පමණක් ම නොවේ. මේ නිසාම ප්‍රඥාවත් කොටස් තුනකට ම බෙදා විග්‍රහ කර ඇත. සුතමයේ ප්‍රඥා, චින්තාමයේ ප්‍රඥා, භාවනාමයේ ප්‍රඥා යන මේ පියවර තුනේදී ම කළ යුතු වන්නේ කෙළෙස් ප්‍රහාණය කර, අත්හැර නිදහස් වීමයි. එනම් මනස පිරිසිදු කර ගැනීමයි.

මේ අනුව සෑම බෞද්ධයෙකුම කාගෙන් හෝ ධර්මයක් අසා ඒ කියූ ධර්මය භක්තියෙන් පිළිගැනීම හෝ පිළිපැදීම හෝ පමණක්ම නිවනට උපකාර නොවන බව තේරුම් ගත යුතුයි. යෝනිසෝමනසිකාරයෙන් ශ්‍රවණය කරන ලද ධර්ම කාරණා තමාම තේරුම් ගෙන, ප්‍රත්‍යක්ෂ කර, යථාවබෝධයක් ලබා, තමාගේම මනස තුළින්, අධ්‍යාත්මය තුළින් මතු වන්නා වූ අරමුණු පිළිබඳව මැන බැලීමක්, පෙරා පිරිසිදු කිරීමක් කර ගැනීම ප්‍රඥාවයි. තම සිතේ මතුවන රූපාරම්මණයක්, සද්දාරම්මණයක්, ගන්ධාරම්මණයක්, රසාරම්මණයක්, පොට්ඨබ්බාරම්මණයක් හා ධම්මාරම්මණයක් පිරිසිදුවම දැන හඳුනාගෙන ඒ අරමුණ රාගයෙන් ඇලීමක් ද, ද්වේෂයෙන් ගැටීමක් ද, මෝහයෙන් මුළා වන්නක් ද වන බව තෝරා බේරා, වෙන් කර දැක, ඒ අරමුණ දෙස විමසා බලා, එය කළු ධර්මයක් නම් අතහැර නිදහස් වීමට ප්‍රඥාවම තිබිය යුතුයි. ප්‍රඥාව යනු මේ අතහැර, නිදහස් වීමේ ශක්තියයි. හැකියාවයි.

ප්‍රඥාව යනු පස්සතෝ, පජහතෝ, පජානනා යන අර්ථයමයි. මේ පැවැත්ම පිළිබඳව, ලෝකය පිළිබඳව, කර්මය පිළිබඳව, දුක පිළිබඳව, චතු අරිය සත්‍යයන් පිළිබඳව

මෙන්ම නිවන පිළිබඳව ද කෙනෙකුට තවත් කෙනෙකුගෙන් අසා තොරතුරු දැනගත හැකියි. මේ අසා දැන ගත් දේ ප්‍රයෝජනයට ගෙන තමන්ගේම මනසිකාරයට යොමුකර, විපස්සනා නුවණින් දැක, තමා තුළම මුල් බැස ගෙන පවතින සමහර කිළිටි දේ ඉවත් කළ යුතුයි. ඝන සංඥාව, ධ්‍රැව සංඥාව, නිච්ච සංඥාව, සුඛ සංඥාව, අත්ථ සංඥාව වැනි නිවනට බලවත්සේ බාධක වන සංඥාවන් සිතින් ප්‍රහාණය කර දැමීමට නම් ප්‍රඥාවම මිස නුවණ කිසිසේත්ම ප්‍රමාණවත් නොවේ. රාගය, ද්වේෂය, මෝහය වැනි කිළිටි ගති නැවත නැවතත් සිතක මතු වන්නේ මෙවැනි සංඥාවන් තමන් තුළම මුල් බැසගෙන චිත්තසංථානයේ පවතින නිසාමයි. තමා ලෞකිකත්වයට බැඳෙන්නේ පටිච්ච වන්නේ මේ ආකාර වූ සංඥා තමා තුළම පවතින බැවිනි.

සංසාරයේ මෙපමණ කාලයක් තමන් ඉපිද, ඉපිද දුක් වින්දේත් මෙවන් නිච්ච, සුඛ, අත්ථ, ඝණ, ධ්‍රැව සංඥාවන් තමන් තුළ පවතින්නේත්, අතීතයේ කවදා හෝ එකතු කර, අල්ලා ඉන්ද්‍රියයන් පිනවීමේ කැමැත්තට බැඳීමක් පවතින නිසාම යි. තමන් අතීතයේ කවදා හෝ අල්ලා, එකතුකර නොගත් ගතියක්, ගති ලක්ෂණයක්, තමන් තුළ ඇබ්බැහි වී පැවතිය නොහැකියි. මෙවැනි ලක්ෂණයන් සියල්ලම තමා තුළම ඇබ්බැහි වී පවතින බව දැක ගන්නට නොහැකි වීම ප්‍රඥාව නොමැති වීම ලෙස හඳුන්වයි. දුප්පඤ්ඤා යනුවෙන්ද එයම අර්ථ ගන්වයි.

ප්‍රඥාව නැති නමුත් නුවණ පමණක් ඇති පුද්ගලයෙකු තම නුවණ මෙහෙයවා තව තවත් දේ මේ ලෞකිකත්වය තුළින් ම එකතු කර ගැනීමට ක්‍රියා කරති. ඒ එකතු කර ගන්නා දේ සාරවත් බවත්, වටිනා බවත්, නිච්ච සේ පවතින බවත් දකී. තීරණය කරයි. මේ ආකාරයට වටිනා දේ, සාරවත් දේ උපාදානය කර, එකතු කර ගත්විට ඒවා තමන්ට නැති වෙයි ද, සොරා ගනියි ද, රජුන් ගනියි ද, ස්වාභාවිකව විනාශ වෙලා යයි ද යන භයක්, තැති ගැනීමක් තම හිතට ම ඇති වේ. හිත කම්පනයට පත් වේ. වේදනාවට පත් වේ. සුඛ වේදනාව වාගේම දුක් වේදනාවටත් පත් වේ. මේ තත්ත්වය විඤ්ඤාණය නිසා මතු වන ස්වභාවයකි. ගතියකි. ප්‍රඥාවෙන් මේ සියලු දේ (ගති) බැහැර කළ පුද්ගලයෙකු කවදාවත්ම භයට පත් නොවේ. කම්පනයට පත් නොවේ. වේදනා නොවිඳියි. තැති නොගනී. වික්ෂෝප නොවේ.

මේ අනුව ප්‍රඥාව නිසා කොතරම් දුරට නිවීමක් ලැබේද යන්න පිළිබඳව කෙනෙකුට අනුමාණ වශයෙන් හෝ හිතාගත හැකි විය යුතුයි. ඥාණය යන දැනීම, නුවණ, උගත්කම, ප්‍රඥාවක් බවට පත්කර ගැනීමත්, ප්‍රඥාව උපදවා පහදා ගැනීමෙන් පසුව විද්‍යා විමුක්තිය සාක්ෂාත් කර ගැනීමත් බුද්ධ ඥාණයෙන් ම කර ගත යුතුයි. මේ අනුව හැම බෞද්ධයෙකුම නිවන් දැකීමට අධිෂ්ටාන කර කටයුතු කරනවා නම් අසා දැන ඉගෙන ගත් ධර්ම ඥාණයෙන් ම, ප්‍රඥාවත් උපදවා පහදා ගත යුතුයි. ප්‍රඥාවෙන් තොරව සත්‍යය ඥාණ, බුද්ධ ඥාණ ලැබිය නොහැකියි. මේ සඳහා උපකාර වන පියවරයන් දෙකක්ම පටිසම්භිදා මග්ගයෙහි සරළ ලෙසින් විග්‍රහ කර පෙන්වා දී ඇත.

1. පරිඤ්ඤෙයියති,
2. තං පජානනා පඤ්ඤා

1. පළමුවැන්න විදර්ශනාව ලෙස සිංහල බසින් අද පෙන්වා විග්‍රහ කරනු ලැබේ. විදර්ශනා ඥාණ යනු වෙන් කර, බෙදා බලා යථා තත්ත්වය අවබෝධ කර ගැනීමේ ශක්තියයි. (වි = වෙන් කිරීම, දර්ශනා = දැනීම හා දැකීම) ද්වතාවය, තිපරිවට්ටය වැනි තවත් බොහෝමයක් දැනගත යුතු බෙදීම්, පටිසම්භිදා මග්ගයේම පෙන්වා දී තිබේ. ස්කන්ධ වශයෙන් (රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ) ආයතන වශයෙන් (චක්ඛු, සෝත, ඝාණ, ජිව්හා, කාය, මන) බාහිර ආයතන වූ (රූප, ශබ්ද, ගඳ සුවඳ, රස, සුව පහස, ධම්ම) විඤ්ඤාණ වශයෙන්, (චක්ඛු විඤ්ඤාණ, සෝත විඤ්ඤාණ, ඝාණ විඤ්ඤාණ, ජිව්හා විඤ්ඤාණ, කාය විඤ්ඤාණ, මනෝ විඤ්ඤාණ), ධාතු වශයෙන් (පඨවි, ආපෝ, තේජෝ, වායෝ, ආකාස, විඤ්ඤාණ) බෙදා වෙන් කර විදර්ශනා කිරීමට පුරුදු විය හැකි නම් එය විදර්ශනා නුවණයි. මෙලෙසින් බෙදා බලා සත්‍යාවබෝධ කර ගැනීම විදර්ශනා නුවණ ලෙස විග්‍රහ කළ හැකිය.

2. විපස්සනා නුවණ, අනුපස්සනා නුවණ යනු මීට වඩා බොහෝම ගාම්භීර දෙයකි. විදර්ශනා නුවණ නොමැති කෙනෙකුට විපස්සනා, අනුපස්සනා නුවණක් පිළිබඳව සිතීමටත් නොහැකියි. ත්‍රිලක්ඛණය හා ඊටම සම්බන්ධ වූ කාරණා 16ක් පිළිබඳවම "ආසේවති, භාවේති, බහුලීකරෝති" යන භාවනා කිරීම විපස්සනාව අනුපස්සනාව වේ. මෙතැනදී ත්‍රිලක්ඛණය හා ඊටම සම්බන්ධ කරුණු 16ක් පිළිබඳවත් නිවැරදි අවබෝධයක් ලබා ඒ කරුණු 16 ම සම්බන්ධවම ද්වතාවයත් තේරුම් ගෙන විපස්සනා අනුපස්සනා භාවනා කිරීම ප්‍රායෝගිකවම කළ යුතු වේ. විපස්සනා, අනුපස්සනා භාවනාවත්, අනාපානසති භාවනාවත් යන දෙකම ප්‍රායෝගිකව එකම භාවනා ක්‍රමයකි.

මෙතැනදී ආනාපානසති භාවනාව යනු හුස්ම ගැනීම, පිට කිරීම දෙස බලා සිටීම හෝ බඩ පිම්බීම, හැකිළීම දෙස බලා සිටීම නම් නොවේ. ද්වතාවය තේරුම් නොගත් කෙනෙකුට මේ අරිය ආනාපානසතිය යන ඇතුළට ගත යුතු දේ හා ප්‍රහාණය කර බැහැර කළ යුතු දේ වෙන් කර, විග්‍රහ කර තේරුම් ගත නොහැකි වීම නිසාම අද ආනාපානසතිය හුස්ම ගැනීමකට හා පිට කිරීමකට ගළපා මුළු අනුපස්සනා, විපස්සනා භාවනා ක්‍රමයම ලෞකික ප්‍රාණයාම භාවනාවකට හරවා ගෙන අතරමං වී සිටිති.

''තං පජානනා පඤ්ඤා'' යන වචන වලින් පෙන්වා දුන්නේ ප්‍රහාණය කර, අස්කර ඉවත් කළ යුතු දේ ඉවත් කිරීමත්, භාවිතා කළ යුතු, ආශ්‍රය කළ යුතු දේ භාවිතා කිරීමත් යන ද්වතාව ධර්මයයි. ආනාපානසතිය යනු ද මෙයම වේ. අස්ස, පස්ස යනු මේ තේරුමම වේ. අතීත කාල පරාසයක් තුළ තමන්ම එකතු කර, තම චිත්තසංථානයේම ගබඩා කරගත් රාග ගති, ද්වේෂ ගති, මෝහ ගති ප්‍රහාණය කර අස් කර දැමීමටත් ධර්මය අසා දැන ගත් පරිදි වීතරාගී, වීත ද්වේෂී, වීතමෝහී දේ ඇතුළට ගැනීමටත් ක්‍රියා කළ හැකි නම්, චිත්තසංථානය කුණු වලින් තොර පාරිශුද්ධ තත්ත්වයටම පත් වේ. මේ ශක්තිය පඤ්ඤා ශක්තිය ලෙසින් බුද්ධ දේශණාවෙහිම පෙන්වා වදාරා ඇත.

පටිසම්භිදා මග්ගයෙහි පෙන්වා දී ඇති පරිදි සියලුම ආකාරයේ පඤ්ඤා (ප්‍රඥාවන්)

ලැබෙන්නේ "භාවේතබ්බංච භාවිතං පහාතබ්බංච පහීනං" යන දෙයාකාර වූ විපස්සනා භාවනාවෙන් පමණි. සියලුම අරිය සත්‍යයන් ප්‍රත්‍යක්ෂ කරගත හැකි වන්නේත් මේ ආකාරයෙන්ම පහා තැබිය යුතු - ප්‍රහාණය කර අස් කර දැමිය යුතු රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කර දැමීමෙනුත්, ආශ්‍රය කළයුතු වීතරාගී, වීතද්වේෂී, වීතමෝහී ගති ආශ්‍රය කිරීමෙනුත් පමණි.

මේ අනුව විදර්ශනා යනු වෙන් කර දැනගැනීමයි. විපස්සනා යනු වෙන් කර දැනගත් දේ අතරින් කෙළෙස් ප්‍රහාණය කර, මනස පිරිසිදු කර ලබාගන්නා දැකීමේ ශක්තියයි. ප්‍රඥාව විස්තර කළ හැම තැනකම විස්තර කර, අර්ථ නිරුක්ති දක්වා ඇත්තේ "පජානනට්ඨේන පඤ්ඤා" යනුවෙනි. පජානන අර්ථයෙන් පඤ්ඤා යන අර්ථය වේ. මෙහි ජානාති හා පජානනය යන වචන දෙකෙන් ම අර්ථ ගැන්වෙන්නේ දැන ගැනීම හා පිරිසිඳ දැන ගැනීම යන තේරුම වේ.

මේ අනුව පිරිසිඳ දැක ගැනීම යනු කුමක්ද යන්න විමසිල්ලෙන් ම අසා දැන තේරුම් ගත යුතුයි. තමාගේ ජීවිතේන්ද්‍රිය නැත්නම් ලේ ධාතුව අපිරිසිදු වීමටත් පිරිසිදු කර ගැනීමටත් දෙකටම උපකාර වන්නේ දොරවල් හයකින් තම තමන් ම ඇතුළට ගන්නා හා පිට කරන ගතියි. ඇස, කන, නාසය, දිව, කය, මන යන මේ ආයතන හයෙන්ම කරනු ලබන්නේ යම් යම් ගති ඇතුළට ගැනීමයි. එසේම යම් යම් ගති පිට කිරීම යි. විඤ්ඤාණය නිරන්තරයෙන්ම උත්සාහ ගන්නේ ඉන්ද්‍රියයන් පිනවීමටයි. නිතරම ඇස පිනවන රූප, කන පිනවන ශබ්ද, නාසය පිනවන ගඳ සුවඳ, දිව පිනවන රස, කය පිනවන පහස, මන පිනවන මතක සටහන් ආදිය ඇතුළට ගැනීමටයි. මේ සියල්ලම ප්‍රිය දේම වේ.

එසේම මේ ඉන්ද්‍රියයන් හයම අමිහිරි, අප්‍රිය දේ ප්‍රතික්ෂේප කර පළවා හැරීමට නැත්නම් ඒවායින් ඉවත් වීමටත් කටයුතු කරයි. එනම් මේ ප්‍රිය අන්තය සේම අප්‍රිය අන්තයටත් හැම පෘථග්ජන පුද්ගලයෙකුම පටිච්ච වේ. පටිච්ච වීම යනු කැමැත්තෙන්ම බැඳීම යන අර්ථයයි. ප්‍රිය දේ එකතු කර ගැනීම සේම අප්‍රිය දේ බැහැර කිරීමට ඇති කැමැත්තත් පටිඉච්ච වීමක් බව හොඳින්ම තේරුම් ගත යුතුයි. ඒ නිසා මේ අන්ත දෙකම පෘථග්ජන පුද්ගලයකුට ප්‍රිය අන්තයන් වේ. මේ අන්ත දෙකට ම නොබැඳී, නො ඇලී, නො ගැටී උපේක්ඛාවෙන් බැලිය හැකි නම් එවිට එතැනදී ඒ පුද්ගලයා පිරිසිඳ දැක ගත හැකි ශක්තියක්, පජානන ශක්තියක් - ප්‍රඥාවක් ඇතිව යමක් දෙස බලා ඉවසා, විමසා ක්‍රියා කරන ශක්තියක් ඇති පුද්ගලයෙක් බවට පත් වේ.

යම් පෘථග්ජන පුද්ගලයෙකු දුටු දේ, ඇසුව දේ, ආස්වාද කළ දේ, මනසට මතු වූ අරමුණ ප්‍රිය නම් ඊට කැමැති වේ. ඵල විපාක හේතුඵල කිසිවක් නොසොයාම, නොවිමසාම එයට ඇලේ. තණ්හා වේ. එය උපාදානය කර ගනී. ඊට සම්බන්ධ වේ. ඒවාගේම දුටු දේ, ඇසුව දේ, ආස්වාදය කළ දේ, මනසෙහි මතු වූ අරමුණ අප්‍රිය එකක් නම්, ඒ සමඟ ගැටේ. ව්‍යාපාදයක්, ද්වේෂයක්, තරහක්, වෛරයක් හිතේ ඇති කර ගනී. මේ අන්ත දෙක ම පෘථග්ජන පුද්ගලයෙකුගේ ලේ ධාතුව කළු කරන කළු ධර්මයන් වේ. පෘථග්ජන පුද්ගලයෙකුට පිරිසිඳ යමක් ගැන දැක ගැනීමට නොහැකි වන තාක් කල් එහි ප්‍රතිඵලය ලෙස උරුම වන්නේ මේ අන්ත දෙකෙන් එකකට බැඳීම හෝ ගැටීමයි. මේ අන්ත

දෙකම කෙළෙස් උපදවන ලේ ධාතුව කළු කරන, කිළිටි කරන, අඳුරු කළු ධර්මයන්ය. පිරිසිඳ දැක ගැනීමට නොහැකිවන තාක්කල් මේ අන්ත දෙකටම පටිච්ච වීම සිදු වීම නියතයකි.

එසේම යම් කෙනෙකුට ධර්මය අසා ධර්මය තේරුම් ගෙන මේ අන්ත දෙකට ම නොඇලී, නොබැඳී, නොගැටී, මුළා නොවී ද්වේෂයක් සිතේ ඇති කර නොගෙන රාගයක් සිතේ ඇති කර නොගෙන උපේක්ඛාවෙන් මේ කරුණු විමසා ඉවසීමෙන් බලා එහි යථාස්වභාවය තේරුම් ගැනීමට හැකි නම් එවිට ඒ පුද්ගලයා පිරිසිඳ දැකීමේ ශක්තියක් සහිත "පජානනය" කළ හැකි පඤ්ඤාවන්තයෙකි. පටිඉච්ච වීමෙන් නිදහස් වීමට හැකි පුද්ගලයෙකි.

අරිය මාර්ගයේ ගමන් කරන අරිය උත්තමයෙකු නම් පටිච්ච ගළවා දැමීමට තවත් ඉදිරි පියවරකුත් අනුගමනය කළ යුතුමයි. පිරිසිඳ දකිනවා සේම කළු ධර්ම බැහැර කර සුදු ධර්ම භාවිතා කිරීමට ක්‍රියා කිරීමත් එම ඉදිරි පියවරයි. කළු ධර්ම බැහැර කිරීම යනු දැක්ක, ඇසුව, ආස්වාද විඳින, මනසට අරමුණු වූ ප්‍රිය දේ නිසා රාගයෙන් සිත කිළිටි කරවන ස්වරූපයේ, ස්වභාවයේ රාගික ගතියක් නම් ඒ ප්‍රිය ගතිය වහාම සිතින් ඉවත් කර ඒ වෙනුවට වීතරාගී, නෙක්ඛම්ම, නොඇලෙන තත්ත්වයට හිත පත් කර වීතරාගී තත්ත්වයක් හිතේ ඇති කර ගැනීමේ ශක්තියයි. ඒ රාගික ආරම්මණයෙහි ඇලීමට සිතට ඇති වූ කැමැත්ත සිතින් ඉවත් කිරීම සඳහා පටිච්ච බව ගැළවීම සඳහා අනිච්ච, දුක්ඛ, අනත්ථ ත්‍රිලක්ඛණය අනුපස්සනා කළ යුතුය. ඒ ප්‍රිය දේ කෙරෙහි නිච්ච සංඥාවක්, සුබ සංඥාවක්, අත්ථ සංඥාවක් මතු වී ප්‍රිය රූපය කෙරේ පටිච්ච වේ නම් අරමුණු වූ නිච්ච සංඥාව ප්‍රහාණය කිරීම සඳහා අනිච්චානුපස්සනාව වඩා එහි ඇති අනිච්ච බව ප්‍රත්‍යක්ෂ කර යථා පරිදි තේරුම් ගත යුතුයි. සුබ සංඥාව ප්‍රහාණය කිරීම සඳහා දුක්ඛානුපස්සනාව භාවිතා කර දුකට හේතුව සුබ සංඥාවට බැඳීම බව ප්‍රත්‍යක්ෂ කර තේරුම් ගත යුතුයි. එසේම අත්ථ සංඥාව ප්‍රහාණය කිරීම සඳහා අනත්ථානුපස්සනාව බහුලව භාවිතා කර, අනාථ වීමට හේතුව අත්ථ සංඥාවකට බැඳීම බව ප්‍රත්‍යක්ෂ කර දැකිය යුතුයි. පටිඉච්ච වීම යනු ඒ අරමුණට බැඳීමයි. ඒ පටිඉච්ච ගැළවීම නිවනයි.

එසේම හිතේ ද්වේෂයක්, වෛරයක්, තරහක්, ඊර්ෂ්‍යාවක් ඇති වන ආරම්මණයක් ඇසින් දැක, කනින් අසා, නාසයෙන්, කටින් කයෙන් ආස්වාද කර, මනසෙන් අරමුණක් ලෙසින් සිතේ ගැටුමක් පහළ වුවහොත් එයද සිත කළු කරන, කෙළෙස් උපදවන, මනස අඳුරු කරන, මෝහයට හේතු වන කළු ධර්මයක් බව දැක වහාම එයද පිරිසිඳ දැක, ඒ වෙනුවට ව්‍යාපාදයෙන්, වෛරයෙන් දුරුවෙනු සඳහා මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා බව සිතේ ඇති කරගත හැකි කර්මස්ථානයක් ගෙන භාවිතා කළ යුතුයි. ඒ සමගම මෙතැනදී ද පටිඉච්ච වීමෙන් ගැළවීම සඳහා පෙර අවස්ථාවේදී රාගයෙන් මිදීමට ගත් ත්‍රිලක්ඛණ භාවනාව ම භාවිතා කර නිච්ච, සුබ, අත්ථ සංඥා ප්‍රහාණය කිරීම සඳහා අනිච්චානුපස්සනාව, දුක්ඛානුපස්සනාව, අනත්ථානුපස්සනාව භාවනා කළ යුතුයි. ද්වේෂයෙන් ඇතිවන පටිඉච්ච වීමද ගළවා දැමිය යුතුයි.

රාගය මෙන්ම ද්වේෂය ද තම සිතේ ඇතිවන කැමැත්ත නිසාම ක්‍රියාත්මක වේ. මේ

පිළිබඳව උදාහරණයන් ගෙන බලමු. ඔබේ මිතුරෙකුට, ඔබ ප්‍රිය කරන කෙනෙකුට යහපතක් වීම දකින්නට, අසන්නට, ලැබීම ඔබේ සිතේ සතුට ඇති කරවන්නකි. එය නිච්ච, සුඛ, අත්ථ සංඥාවට හේතුවකි. ඒ වාගේම ඔබේ සතුරෙකුට අයහපතක් පාඩුවක්, විනාශයක් වීමත් අසන්නට හෝ දක්නට ලැබීමත් ඔබේ සිතට සතුටකි. මෙයද නිච්ච, සුඛ, අත්ථ සංඥාවකි. මේ අන්ත දෙකට ම ඔබ ගැටුණොත් හෝ බැඳුණොත් හෝ ඔබේ සිත රාගයෙන් හෝ ද්වේෂයෙන් හෝ කිළිටි වේ. ලේ ධාතුව කළු වේ. මනස මෝහයෙන් මොට්ට වේ. මේ නිසා ඔබ මෝඩයෙකු බවටද පත් වේ. පිරිසිඳ දැකීමට ශක්තියක් නැති පුද්ගලයෙකු බවට පත් වේ. දුප්පඤ්ඤ තත්ත්වයට පත් වේ.

ඔබේ චිත්තසංථානය වික්ෂෝප තත්ත්වයට පත් වන්නේත්, උද්ධච්ච තත්ත්වයට පත් වන්නේත් කම්පනයට, තැති ගැන්මට, භයට, වේදනාවට පත් වන්නේත් මේ දෙයාකාර වූ කළු ධර්මයන් (රාග, ද්වේෂ) සිතට ඇතුලු වීම නිසාම තමාගේ ලේ ධාතුවම අපිරිසිදු වී මෝහයට පත් වීම සිදුවීම හේතුව කොටගෙනමයි. මෝහය, මෝඩකම, අවිද්‍යාව වැනි ළාමක ගති ලක්ෂණයන් කෙනෙකුගේ සිතට බාහිරයෙන් ඇතුලු වන ගති ලක්ෂණ නොවේ. රාගය හා ද්වේෂය නිසාම තම ලේ ධාතුව අපිරිසිදු වී, අපිරිසිදු ලේ මොළයේ සෛලවල ඇති ශක්තිය වසා, අඳුරු කර, මුවහ කරන නිසා සිදුවන අභ්‍යන්තර ක්‍රියාවකි. මේ නිසා හැම පෘථග්ජන පුද්ගලයෙකුම නිවැරදි ලෙසම තේරුම් ගත යුත්තේ පිරිසිඳ දැකීමේ ශක්තියෙන් තොර වූ විට පුද්ගලයෙකුට නිරන්තරයෙන් ම රාගයෙන්, ද්වේෂයෙන් ක්‍රියාකිරීමත් සමඟම මෝහය තමා තුළම අභ්‍යන්තර වශයෙන් තමාම බිහි කර ගන්නා බවයි. මෝහය තමා තුළ බිහිවීමත් සමඟ ම මනසේ ශක්තිය යෝනිසෝමනසිකරණය දුර්වල වී ඇත්ත නැත්ත, හොඳ නරක, කුසල් අකුසල්, කළු ධර්ම, සුදු ධර්ම, වෙන් කර දැන හඳුනා ගැනීමේ හැකියාව හා ශක්තිය දුර්වල වේ. දුප්පඤ්ඤස්ස පුද්ගලයෙකු බවට පත් වේ.

මෙහි අනෙක් පැත්තද මේ ආකාරයෙන් තේරුම් ගත යුතුයි. රාගයෙන්, දැඩි ආශාවෙන්, අභිජ්ඣාවෙන් අරමුණකට නො ඇලී, ද්වේෂයෙන්, වෛරයෙන්, ඊර්ෂ්‍යාවෙන් අනෙකා සමඟ නොගැටී, උපේක්ඛා සිතින් ඉවසා, විමසා කටයුතු කිරීමට පුරුදු වූ විට තම මනස පිරිසිදු වී, ඒ අනුව කාමයෙන් තොර වූ නෙක්ඛම්ම තත්ත්වයටත්, ද්වේෂයෙන් තොර වූ අව්‍යාපාද තත්ත්වයටත් පත් වී, පිරිසිඳ දැකීමේ ශක්තිය තමාම මනස තුළින්ම දියුණු කරගත් පසු චිත්තසංථානය රාගයෙන් තොර තැනක් වීමත් සමඟම මනසේ ශක්තිය හා පිරිසිඳ දැක ගැනීමේ ශක්තිය එනම් ප්‍රඥාව තමා තුළින්ම මතු වේ. දෙවනුව රාගයට, ද්වේෂයට මුල් වූ හේතුව වන පටිඉච්ච වීම ඉවත් කර මේ ගතිය උදුරා දමා සහමුළින්ම එය ඉවත් කර දැමීමට එනම් සමුච්ඡේද කිරීමට නිච්ච, සුඛ, අත්ථ සංඥා ප්‍රහාණය කර අනිච්ච, දුක්ඛ, අනත්ථ අනුපස්සනා කර භාවිතා කළ යුතුයි. එවිට පටිඉච්ච වීම සිදු නොවී සමුදය ධර්ම බිහිවීම සිදු නොවී, උද්ධච්ච, විචිකිච්චා යන ගති සිතෙන් පහවී, සිත අවික්ඛේප තත්ත්වයටම පත්වේ. උද්ධච්චය සිතින් ඉවත් වීමත් සමඟම අවික්ඛේප තත්ත්වයට පත් වූ සිතට කම්පනයක්, තැති ගැනීමක්, භයක්, වේදනාවක් ඇති වීමට මුල් වූ හේතුවම නැති වේ. හේතුව පහව ගිය පසු ප්‍රහාණය කළ පසු සමුච්ඡේද වශයෙන් ම සිතින් ඉවත් කළ පසුව ඵලයක්, විපාකයක් ඇති නොවේ. පටිච්ච නොවූ සිතක ''සං'' උපතක්ද සිදු නොවේ. සමුදය බිහි වීමද සිදු නොවේ. සංසාරයට නොබැඳේ. පංචස්කන්ධයන් භාවිතා කළද ඒවා

දැඩිව උපාදානය කර නොගනී.

කළු ධර්ම යනු තමාගේ ම චිත්තසංථානය කළු කරන, අඳුරු කරන, කිළිටි කරන කෙළෙස් ධර්ම ලෙස හැඳින්වේ. මේ නිසා ජීවිතේන්ද්‍රිය එහෙමත් නැත්නම් ලේ ධාතුව අපිරිසිදු වී, අභ්‍යන්තර වශයෙන් කෙනෙකුට නොයෙකුත් ආබාධත් ඇති වේ. එසේම මනස මුවහ වී මෝහය ක්‍රියාත්මක වීමද සිදු වේ. සංසාර ගමනට දිගින් දිගටම සංසාරේ අතරමං වීමට මුල් වූ හේතුව අතීතයේ දී කළු ධර්ම චිත්තසංථානයේ ඇතුළට එකතු කර ගැනීම හා එම කළු ධර්ම චිත්තසංථානයේ ගබඩා කර විඤ්ඤාණය ඒවා ආහාර ලෙසින් (ඒ කළු ධර්ම) විඤ්ඤාණයම භාවිතා කිරීමයි. විඤ්ඤාණයේ ආහාර කළු ධර්ම නිසා නිරන්තරයෙන් ම විඤ්ඤාණය තමන්ට ආහාර සපයා ගැනීමට ක්‍රියා කරන බව කාටත් පැහැදිළි විය යුතුයි. මේ අනුව රාග ගතිය, මෝහ ගතිය, ද්වේෂ ගතිය එකතු කර චිත්තසංථානය තුළම ගබඩා කර ගත් විට ඒ ගති චිත්තසංථානය තුළදී ම පැසී, මෝරා වැඩි දියුණු වේ. මේ ගති ඇතුළට ගත් ස්වරූපයෙන්ම ආපසු අරමුණ වශයෙන් සිතේ මතු නොවේ. මේ ගති පැහී, මෝරා කාමාසව, භාවාසව, දිට්ඨාසව, අවිජ්ජාසව යන බලවත් ශක්තියෙන් යුතුව කාම විතක්ක විචාර, ව්‍යාපාද විතක්ක විචාර, අවිද්‍යා විතක්ක විචාර ලෙසින් තමාගේ ම සිතේ අරමුණු වේ.

ධර්මය අසා, දහම් ඇස පහදා ගෙන කෙනෙකුට විපස්සනා නුවණක් උපදවා මතු කර ගත යුතු වන්නේ මේ කළු ධර්ම එනම් අවිජ්ජාසව, භවාසව, දිට්ඨාසව තමන්ගේම චිත්තසංථානය තුළ ක්‍රියාත්මක වීම පිළිබඳව පිරිසිදුවම වෙන් කර දැන ගැනීමටයි. සිතේ මතු වන විතක්ක විචාර, රාගයට, ද්වේෂයට, මෝහයට මුල්වන අරමුණු නම් ඒවා දැන හඳුනා ගැනීමට හැකි ශක්තිය විපස්සනා ඥාණයයි. එසේම ධර්මය අසා, දහම් ඇස පහදා ගත් පසුව සිතේ නෙක්ඛම්ම, මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා සේම වීතරාගී, වීත ද්වේෂී, වීත මෝහී අරමුණු පහළ වේ නම් ඒවා යහපත් සුදු ධර්ම ලෙස සැළකේ. එනම්, සවිතක්ක සවිචාර බවත් තේරුම් ගත හැකියි. මේ ශක්තිය ලැබෙන්නේ විපස්සනා ඥාණයන් තුළින්මයි.

සීලයේ පිහිටා කටයුතු කරන කෙනෙකුගේ ක්‍රියාව, වචනය මෙන්ම සිතුවිල්ල ද පිරිසිදු වන නිසා ඉන්ද්‍රියයන් හයම සංවර වී, සුදු ධර්ම ක්‍රියාත්මක වීමත් කළු ධර්ම එකතු නොවීමත් සිදු වේ. මේ නිසා සීලය එනම් සංවර සීලය, චේතනා සීලය, ප්‍රහාණ සීලය, විපස්සනා ඥාණ පහළ වීමටද කෙනෙකුට නියත වශයෙන්ම උපකාර වේ.

ලෝකයේ ලෞකික පැවැත්ම, විශ්ව ශක්තිය ක්‍රියාත්මක වන්නේ මේ කළු ධර්ම හා සුදු ධර්ම යන කොටස් දෙකම විශ්වය තුළ ක්‍රියාත්මක වන නිසයි. කළු ධර්ම පමණක්ම විශ්ව ශක්තියක් ලෙස ක්‍රියාත්මක වේ නම් සත්ත්වයාට ජීවත් වීමට යහපත් තැනක් ලෙස මේ ලෝකය පත් වන්නේ හෝ පවතින්නේ හෝ නැත. සුදු ධර්ම පමණක්ම ක්‍රියාත්මක වේ නම් ඒ හැම කෙනෙක් ම නිවන් දැක ගනී. මේ කළු ධර්ම හා සුදු ධර්ම දෙකමත් ක්‍රියාත්මක වන්නේ ඒ ඒ සත්ත්වයාගේ සිතෙහිය. එනම් චිත්ත ශක්තිය, විඤ්ඤාණ ශක්තිය ලෙසින්මය. කළු ධර්ම චිත්තසංථානයේ විඤ්ඤාණ ශක්තියක් ලෙසින් ක්‍රියාත්මක වන තුරාවට නැවත නැවතත් සත්ත්වයා ඉපදි ඉපදී සංසාරයේ දුක් විඳී. සුදු ධර්ම

චිත්තසංථානයේ වගා වේ නම් විඤ්ඤාණ ශක්තිය දුර්වල වී, ප්‍රඥාව මතු වී සංසාර ගමන නිමා වී නිදහස් වේ. නමුත් කවදාවත්ම කොතරම් බුදුවරයන් ලොව පහළ වුවද ලෝකයේ ජීවීන් ලෙස සිටින සියල්ලන්ම නිවන් නොදකී. ඒ ආකාරයට සියල්ලන්ම නිවන් දැක අවසාන වුවහොත් විශ්ව ශක්තියක් ලෝකයේ ක්‍රියාත්මක වීමද සිදු විය නොහැක්කකි.

මිනිසෙකු ලෙසින් උපත ලැබූ සෑම කෙනෙකුම අතීතයේදී සුදු ධර්ම එනම් කුසල් හා ඒවාගේම පුණ්‍ය ශක්තීන් පින්කම් ආදියත් යම් ප්‍රමාණයකට හෝ කරගෙන තිබේ. ඒ ආකාරයට පින්කම් හා කුසල් යන දෙකම අතීත සංසාරයේ දී වඩා පුරුද්දක් නොමැති කෙනෙකුට අද මිනිසෙකු ලෙස ඉපදීමට නොහැකියි. මිනිසෙකු වී උපත ලබන හැම කෙනෙකුමත් උපත ලබන්නේ විඤ්ඤාණ ශක්තියෙනි. මාර්ග ඵලයට පත්වී සිටින ජාත සෝතාපන්නයෙකු ලෙසින් අරිය උත්තමයෙකු ලෙසින් මිනිස් ජාතියක උපතක් ලැබූවත් තවමත් විඤ්ඤාණ ශක්තියත් ක්‍රියාත්මක වේ. අරහත් තත්ත්වයට පත්වන තුරාවටම කළු ධර්ම එකතු කරනු ලබයි. එනම් විඤ්ඤාණ ශක්තිය තවදුරටත් ක්‍රියාත්මක වීමයි. සේඛ යන අරිය තත්ත්වයට පත් වූ පසුව ක්‍රමානුකූලව කුසලස්ස උපසම්පදා යන ක්‍රියාවලියට අනුගතවන නිසා ප්‍රඥාවෙන් සියලු ආකාර වූ කෙළෙස් ධර්මයන් ප්‍රහීණ කරගත හැකියි. එසේම දස සංයෝජනයන් ම ප්‍රහාණය වේ. ආසව, අනුසය ධර්මයන් සියල්ලම ඛය කර කළු ධර්මයන් උපත ලැබීමේ ශක්තියත් සහමුළින්ම අවසන් කරනු ලැබේ. ඊට පසුව ''ඛීණා ජාති, වුසිතං බ්‍රහ්මචරියං, කතංකරණීයං නාපරං, ඉතත්ථායාති, පජානාති'' යන අරහත් තත්ත්වයටම පත්වේ. නවලෝකෝත්තර සිරි සද්ධර්මය යථාපරිදි අවබෝධ කරගත් සදහටම සංසාර දුකින් මිදී නිදහස් වූ මිනිස් තත්ත්වය ඉක්ම වූ උත්තමයෙකු වේ. ඒ නිසාම අරහතුන්වහන්සේ කෙනෙකුට "සත්ත්ව" යන නම භාවිතා කළ නොහැකියි. ඒ සියලු ''ස්ව තත්ත්වයන්'' ඉක්ම වූ උත්තමයෙකු හෙයිනි. භව - උදුරා දමා බුද්ධ වූ හෙයිනි.

තවත් මිනිසෙකුට ඔහු තුළ ඇති කළු ධර්මයන් නැසීමට බැහැර කර ඉවත් කිරීමට මඟ කියා දෙන අරිය උත්තමයන්වහන්සේ කෙනෙකුට "කළ්‍යාණ මිත්‍රයා" යන නම භාවිතා කරයි. කළු ධර්මයන් ඉවත් කිරීමට මඟ පැහැදිළිවම ප්‍රකාශ කර තවත් කෙනෙකුට නිවන් මඟ පාදා දීමට දේශණා කළ නොහැකි ගිහි හෝ පැවිදි කාට වුවද "කළ්‍යාණ මිත්‍රයෙක් " ලෙස හැඳින්විය නොහැකිය.

වරක් බුදුපියාණන්වහන්සේ, ආනන්ද හිමිට දේශණා කර වදාළේ "ආනන්ද මේ බුද්ධ සාසනයේ නිවන් මඟ පවතින්නේ කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය නිසාම යි, කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය නැති වූ විටක මේ නිවන් මඟත් වැහිලා, යටපත් වෙලා යනවා" යනුවෙනි. ඒ නිසා සියයට සියයක්ම මේ බුද්ධ සාසනයේ නිවන් මඟ රැඳී පවතින්නේම කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය නිසාමයි යනුවෙන් බුදුපියාණන්වහන්සේම දේශණා කර වදාළා නම් මේ කළ්‍යාණ මිත්‍රයා යනු කවරෙක්ද යන්න නිවැරදිවම තේරුම් ගත යුතුම යි.

කළ්‍යාණ මිත්‍රයා යනු කළු ධර්ම නසන්නට මඟ කියා දිය හැකි උත්තමයාට යි. මේ කළු ධර්ම යනු ආසව අනුසය ධර්ම එහෙම නැත්නම් රාග, ද්වේෂ, මෝහ යන කෙළෙස් ධර්මයි. සෑම පෘථග්ජන කෙනෙකුම තමන්ම ඇතුළට එකතු කර ගන්නේ රාග, ද්වේෂ, මෝහ යන කෙළෙස් වර්ග තුනක් පමණි. විවිධ නම්වලින් කෙළෙස් 1500ක් ලෙස විග්‍රහ කළද,

මේ මූලික කොටස් තුනට ඒ සියල්ලම ඇතුළත්ය. චිත්තසංථානය ඇතුළට එකතු කර ගත් රාග, ද්වේෂ, මෝහ කළු ධර්ම බවට පත් වී ඒවා බල ගැන්වී, පැහී, මෝරා, පාක වී, ආසව අනුසය ලෙසින් නැවතත් සිතකම මතු වේ. මේ සංසාර ගමනට හේතු වන මූලිකම ක්‍රියාවලියයි. සාරයි යනුවෙන් එකතු කර ගන්නා දේ නිසාම පුද්ගලයෙකු, සත්ත්වයෙකු දෘෂ්ඨි ගත වේ.

මේ කළු ධර්ම පිළිබඳව විස්තර කර, විග්‍රහ කර මේවා හිතක හට ගන්නේ කෙසේද අතීතයේ තම තමාම දන හෝ නොදන හෝ චිත්තසංථානය ඇතුළට අරගත් මෙවන් කළු ධර්ම ඉවත් කර, ප්‍රහාණය කර, චිත්තසංථානය පිරිසිදු කර ගන්නේ කෙසේද, මතුවටත් කළු ධර්ම එකතු කිරීමේ ක්‍රියාවලියෙන් වැළකී නිදහස් වන්නේ කෙසේද යන සම්පූර්ණ නිවන් මාර්ගයම ප්‍රකාශ කළ හැකි වන්නේ මේ පිළිබඳව ප්‍රායෝගිකවම අත්විඳ ගත්, අත්දුක ගත් අරිය උත්තමයෙකුට පමණි. අනුමානයෙන් කාගෙන් හෝ අසා දන පොතකින් පතකින් කියවා දනගත් දේ අනුව මේ කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය ලබා ගැනීමට හෝ නිවන් මඟඵල ලබා ගැනීමට හෝ උපකාර වීමක් සිදු නොවේ. ලෞකික වශයෙන් යහපත් දිවි පෙවෙතක් ගත කිරීමට නම් අපායෙන් ගැළවීමට නම් දිව්‍ය ලෝකවල යෑමට නම් ඒවා උපකාර කරගත හැකියි.

ඒ නිසා ආදී කළ්‍යාණංවා, මජ්ඣෙ කළ්‍යාණංවා, පරියෝසාන කළ්‍යාණංවා යන තුන් ආකාරයටම අතීත, වර්තමාන, අනාගත යන තුන් කාලයටම අයත් කළු ධර්ම නසා, චිත්තසංථානය පිරිසිදුකර ගත හැකි වන්නේ අරිය උත්තමයෙකුගෙන්ම පරම පවිත්‍ර බුද්ධ ධර්මයම ශ්‍රවණය කිරීමෙන්ම පමණි. එසේම අරිය උත්තමයෙකුට කෙනෙකුගේ අතීතයේ මහා කල්ප ගණනක් තුළදී එකතු කර ගත් අදටත් චිත්තසංථානයේ ගබඩා වී පවතින කළු ධර්ම එනම් කාමාසව, භවාසව, දිට්ඨාසව, අවිද්‍යාසව ඉවත් කර ගැනීමටත් මඟ කියා දී, අනුගමනය කළ යුතු කර්මස්ථාන හා සීල, සමාධි, ප්‍රඥා ත්‍රිශික්ඛාවම පැහැදිළි කර දීමට හැකියාව ඇත. එතැනදී වර්තමානයේ එකතු කරගන්නා කළු ධර්ම එකතු කිරීමේ ක්‍රියාවලියෙනුත් අනාගතයේ දී කළු ධර්මයන් එකතු කිරීමට ඉඩ ඇති ක්‍රියාවලියෙනුත් කෙනෙකුට ඉවත් වීමට මඟ පෙන්වා දී සමුච්ඡේද වශයෙන්ම කළු ධර්ම නසා දැමීමේ පිළිවෙත පැහැදිළි කර දීමේ හැකියාව ඇත්තේ කළ්‍යාණ මිත්‍රයෙකුටම පමණි.

එදා ගෝතම බුදුපියාණන්වහන්සේ ජීවමානව වැඩසිටි යුගයේදී නම් පැයක් දෙකක් ඇතුළත දී මුල, මැද, අග යන තුන් කාලයම සළකා දාන කථා, සීල කථා, සග්ග කථා, නෙක්ඛම්ම කථා වැනි අංග සම්පූර්ණ සාමුක්කංසික දේශණාවක් කර කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය ලබා දී මිනිසුන් මාර්ග ඵලයන්ට පත්කිරීමේ ශක්තියක් ලබා දුන්හ. නමුත් අද කාලයේ ජීවත් වන මිනිසුන් හා සමාජය ඊට වඩා පිරිහී ආගම් සංකල්පවලින් විකෘත වී ඇති නිසා දවසකින් නොව මාස ගණනකින් වුවද මිනිසුන්ට දේශණා කර මේ ධර්මාවබෝධය ලබා දීම අමාරු කාර්යයකි. ඊට මූලික ම හේතුව අද ලෞකිකත්වය කෙරෙහිම යොමු වූ දෙව්, මිනිස් සැප සම්පත් දැඩි සේ බලාපොරොත්තුවෙන්ම බුද්ධාගම පවා ඇදහිල්ලක් ලෙසින්ම අදහන ලේබල් බෞද්ධ පිරිසම බහුල වීමයි.

කොතරම් ශ්‍රද්ධාවෙන් යුක්ත වූ බෞද්ධයෙකුට වුවද අද එකවරක්, දෙකක් අසා මේ

උතුම් ධර්මය තේරුම් ගෙන තම චිත්තසංථානයේ ගබඩා වී ඇති දෙව්, මිනිස් සැප පැතීමේ ගතිය, දෘෂ්ටිය ඉවත් කර ගත නොහැකියි. එය ඉතාමත් ම අමාරු කාර්යයකි. කළු ධර්ම යනු මේ ගතිගුණ හා බැඳුණු මතු බලාපොරොත්තු වේ. අද මිනිසුන් සිල් රකින්නේ දෙව් ලොව යෑමේ සැප විඳීමේ බලාපොරොත්තුවෙනි. දන් දෙන්නේ, දෙන දේ මෙන් සිය දහස් ගුණයක් ආපසු ලබා ගැනීම සඳහායි. භාවනා කරන්නේ ධ්‍යාන ලබා මානයෙන් ලෝකයාට ඍද්ධි ප්‍රාතිහාර්යයන් පෙන්වීම සඳහායි. මානයෙන්, මමත්වයෙන් ක්‍රියා කරනු මිස කළු ධර්ම මොනවාද යන්න නිසි අවබෝධයක් ඇතිව ධම්මානුධම්ම ප්‍රතිපදාවේ යෙදෙන මිනිසුන් අද බෞද්ධයින් අතරත් විරලය. ධර්මය දේශණා කරන බොහෝ දේශකයින් ද තමාගේ ම ආත්මලාභය සඳහා ම මුදල් එකතු කර ගැනීමටත්, පොත් විකුණා වෙහෙර බෝමළු සෑදීමටත්, තමන්ගේම සුබ විහරණය සඳහා ප්‍රසිද්ධිය, ප්‍රචාරය, ප්‍රශංසාව, ප්‍රණාමය හෝ ප්‍රතිලාභයක් සඳහාම ධර්මය දේශණා කරයි නම් කළ්‍යාණ මිත්‍ර සම්පත්තියක් ලැබේ යැයි සිතිය නොහැකියි. මේ අනුව කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය ලබා දීමත්, ලබා ගැනීමත් යන දෙකම අද එක සේ අමාරු කාරණා දෙකකි. කළ්‍යාණ මිත්‍රයා යනු කවුද, කළ්‍යාණ මිත්‍රයාට කළ හැකි දේ මොන වාගේ දෙයක් ද යන්න හොඳින් නිවැරදිව ම තේරුම් ගත යුතුයි.

මිනිසුන් ඇතුලු සියලු සත්ත්වයන්, දෙවියන් පවා සංසාර ගමනට කැමැත්තෙන්ම බැඳෙන්නේ, ඇලෙන්නේ, පටළැවෙන්නේ, මුළා වෙන්නේ තම තමාගේම චිත්තසංථානයෙහි රාග, ද්වේෂ, මෝහ යන කෙළෙස්, කළු ධර්ම ගබඩා වී, මුල් බැස පැවතීම නිසයි. මේ කෙළෙස් අත්හැරීමට, ප්‍රහාණය කර ඉවත් කර දමා ඒවායින් නිදහස් වීමට තම තමන් තුළම ඇති මේ ශක්තිය පිළිබඳව මනසක් ඇතිව උපන් මිනිසුන් අතුරින් පවා තේරුම් ගන්නේ කිහිප දෙනෙකු පමණි. බොහෝමයක් දෙනෙකුට මේවා තේරුම් ගැනීමටද නොහැකියි. තවත් කොටසක් මෙවැනි ධර්මය ඇසීමට පවා අකමැතියි. මේ කෙළෙස්, කළු ධර්ම බුදුපියාණන් වහන්සේම පෙන්වා දුන්නේ කුණු ලෙසයි. මේ කුණු සොළවා, ගළවා අස්කර දැමිය යුතු දේ නිසා "කුසලස්ස උපසම්පදා" යනුවෙන් දේශණා කර වදාළහ. කුසලස්ස යනු "කුණු සොළවා අස්කර දැමිය යුතුයි" යන අදහසයි.

අද කුසලස්ස යන පදයත් පින්කම් යන පදයත් බොහෝ අය පටලවා ගෙන භාවිතා කරති. අස්කර, ඉවත්කර නිදහස් විය යුතු කුණු ගොඩක් පිළිබඳව කියැවෙන කුසල් යන පදයත්, සිත පහන් කර චිත්ත ප්‍රසාදයත් සඳහා කරන පින්කමත් ක්‍රියා දෙකක් බව තේරුම් ගත යුතුයි. පින්කම් කර සිතේ පැහැදීමක් ඇති වූ විට දෙවනුව සිතේ ගබඩා වී පවතින කුණු රාග, ද්වේෂ, මෝහ මුළින්ම ගළවා, අස්කර ගැනීමටත් හැකියි. ඒ නිසා නිවනට මේ දෙකම එක සේ අවශ්‍යයි. කුණු සළා අස්කර දැමීමට නම් ප්‍රඥාව යන ශක්තියත් අවශ්‍යම වේ.

ප්‍රඥාව අවශ්‍ය වන්නේම කුසල් පූර්ණ කර ගැනීමටයි. ප්‍රඥාවෙන් කර ගන්නේ පජහති, පහානාති, පස්සති යන අස්කිරීම, බැහැර කිරීම, මුළින්ම ගළවා ඉවත් කිරීම වශයෙන් පෙන්වූ ක්‍රියාවන්මයි. මෙතැනදී කළු ධර්ම බැහැර කිරීම සිදු කරනු ලැබේ. ඒ වෙනුවට සුදු ධර්ම භාවිතා කිරීමකුත් අවශ්‍ය වේ. සුදු ධර්ම ලෙසින් ධර්මයේ පෙන්වා වදාළේ චිත්තසංථානය පිරිසිදු කරන කළු ධර්ම වලට විරුද්ධ වූ දේය. සුදු ධර්මයන් ලෙසින් පෙන්වා වදාළ වීතරාගී, වීතද්වේෂී, වීතමෝහී, මෙත්තා, කරුණා, මුදිතා,

උපේක්ඛා, අනාසව, නිරාමිස ගති චිත්තසංථානය ඇතුළට ගැනීමෙන් මෙතුවක් කල් චිත්තසංථානය තුළම ගබඩා වී තිබූ කළු ධර්මයන් කැපී විනාශ වී යයි. සුදු ධර්මයන් කිසිවිටකත් විඤ්ඤාණයට ආහාර ලෙසින් භාවිතා කළ නොහැකියි. ඒ නිසා විඤ්ඤාණ ශක්තිය දුර්වල වී, ප්‍රඥාව උපදවා, පහදා ගත හැකියි. මේ අනුව සහමුළින්ම "භව" උදුරා දමන්නට උපකාර වන බුද්ධ ඥාණ මතු වේ. ඒ ප්‍රඥා විමුක්තියට පත්වීමේ මාර්ගයයි.

කළු ධර්මයන් චිත්තසංථානයේ ගබඩා වී පවතින තුරාවටම විඤ්ඤාණයට අවශ්‍ය ආහාර ද ලැබේ. ඒ වාගේම සත්ත්වයාට මතු ජාතියක්, උපතක් සකස් කර ගැනීමට අවශ්‍ය වන උපකාර වන කර්ම බීජද මේ කළු ධර්මයෝමයි. ඒ නිසා විඤ්ඤාණයට මේ කුඩුව නැති වීමේ භයක් ඇති නොවේ. නැවතත් කුඩුවක් සදාගෙන එහි පදිංචි විය හැකියි. මෙම කර්ම බීජ "භව" යන පදයෙන් ධර්ම විග්‍රහයේදී පෙන්වා වදාරා ඇත. "භව පච්චයා ජාති" ලෙස පටිච්චසමුප්පාද විග්‍රහයේ පැහැදිළි ලෙසින්ම දේශණා කර වදාළ "කර්ම බීජ අවස්ථාව" උපතක් හෝ ජාතියක් යන අර්ථය ඇති පදයක් නොවේ. ඊට පෙර අවස්ථාවයි. පටිච්චසමුප්පාද විග්‍රහය පිළිබඳව නිවැරදි ලෙසින් අර්ථ විග්‍රහයක් කිරීමට නොහැකි වූ බොහෝ බෞද්ධයන් උගතුන් පවා අතරමං වී "ජාති හා භව" යන අවස්ථා දෙකම පටළවා ගෙන ක්‍රියාකිරීම නිවන් මඟ වසා ගත් මූලිකම හේතුව වී ඇත.

යමෙකුට නිවන් දැක ගැනීමට අවශ්‍ය නම් ඒ පුද්ගලයා කරගත යුතු වන්නේ කර්ම බීජ, භව නිරෝධ කර තම චිත්තසංථානයේ ගබඩා වී පවතින සියලුම අතීත කර්ම බීජද හිස් කර දැමීමයි. ඒ සඳහා පළමුවම අලුතින් නව කර්ම බීජ රැස් කිරීම වළක්වා, වාරණය කර ගත යුතුයි. දෙවනුව අතීතයේ රැස් කළ කර්ම බීජ අස්කර චිත්තසංථානය හිස්කර ගත යුතුයි. තෙවනුව නව කර්ම බීජ මතු අනුප්පාද වන ලෙසින්ම සමුච්ඡේද වශයෙන් සමුදය මුල් ගළවා දැමිය යුතුයි. මේ පියවර තුනම සීල, සමාධි, ප්‍රඥා ලෙසින් ද ධර්මයේ විග්‍රහ කර තිබේ. මෙහිදී මෙම පියවර තුනම කළු ධර්ම බැහැර කිරීම හා සුදු ධර්ම භාවිතා කිරීම යනුවෙන්ද විග්‍රහ කළ හැකියි. "භාවේතබ්බං ච භාවිතං - පහාතබ්බං ච පහීනං" යන මාගධී පද වලින් විග්‍රහ වන්නේ මේ අදහසම ඇතිවයි. "ආසව අනුසය පරික්ඛීණා" කිරීමත් සමඟම දස සංයෝජනයන් ම ප්‍රහාණය වේ.

"ඒවං සංයෝජනා පහීයන්ති,
ආසව අනුසයා බයාහොන්ති"

මේ ආකාරයට සෝතාපන්න මාර්ගයේදී සංයෝජන තුනකුත් දිට්ඨානුසය, විචිකිච්චානුසය යන අනුසය කොටස් දෙකත් "බයාහොන්ති", සහමුළින් ම ගැළවී යයි.

සකෘදාගාමී මාර්ගයේදී කාම රාග හා පටිඝ යන සංයෝජන දෙකත් කාමරාග අනුසය හා පටිඝ අනුසය යන අනුසය ධර්ම දෙකත් තුනී වී ඕලාරික තත්ත්වයට පත් වේ.

අනාගාමී මාර්ගයේ දී කාම රාග හා පටිඝ යන සංයෝජන දෙකත් කාමරාගානුසය, පටිඝානුසය දෙකත් සහමුළින් ම ඉවත් වේ.

අරහත් මාර්ගයේදී රූප රාග, අරූප රාග, මාන, උද්ධච්ච, අවිජ්ජා යන පංච

උද්ධංභාගිය සංයෝජනත්, මානානුසය, භවරාගානුසය හා අවිජ්ජානුසයත් සහමුළින් ම ප්‍රහාණය කර විද්‍යා විමුක්තියට පත්ව ප්‍රඥා විමුක්තිය සාක්ෂාත් කර ගනී.

මේ හතර අවස්ථාවේදීම මාර්ගය සම්පූර්ණ වීමත් සමගම ''ඛණ'' සම්පත්තියට පත් වේ. මෙතැන "ඛණ" යන පදයෙන් විග්‍රහ කළේ අර්ථ දක් වූයේ "ආසවක්ඛයා" යන අර්ථයෙනුයි. ආසව, අනුසය මුලින් උදුරා දැමුවාය යන අර්ථයයි. අද ඛණ යන පදයට "ක්ෂණ සම්පත්තිය" යන පදය යොදාගෙන තිබුණත් මෙතැන ක්ෂය කිරීමක් හෝ ක්ෂණයක් යන අදහසක් හෝ බුද්ධ භාෂිතයේ දී අර්ථ ගැන්වූයේ නැත. ආසව, අනුසය මුලින් උදුරා දැමීම මෙතැනදී සිදු වේ. ඛීණා ජාති, ඛීණං පුරාණං, ඛයං විරාගං යන හැම තැනම මේ පදය යොදා ඇත.

මනින්ද්‍රිය හා මනායතන යන පද දෙකෙන් විග්‍රහ වන්නේද අවස්ථා දෙකකි. මනස නැතිනම් මනීන්ද්‍රිය යනු මැනීමේ පෙරීමේ, එහෙමත් නැත්නම් හොඳ නරක, කළු සුදු ධර්මයන් වෙන් කර, දැන හඳුනා ගෙන, තෝරා බේරා භාවිතයට ගැනීමේ හෝ බැහැර කිරීමේ හෝ ශක්තියයි. මනායතනයක් ලෙසින් මනස ක්‍රියාත්මක වෙන අවස්ථාවල දී, දැනුම, ඥාණය එකතු කර ගැනීමක් සිදු වේ. මනායතන අවස්ථාවල දී හොඳ නරක, කළු සුදු ධර්ම කොටස් දෙකම මනායතනයෙන් එකතු කර ගනී. මනීන්ද්‍රිය ක්‍රියාත්මක වන අවස්ථාවල දී පෙරා මැන බලා, තෝරා බේරා ගති ඇතුළට ගත්තද මනායතනය ක්‍රියාත්මක වන විට එසේ තෝරා බේරා ගැනීමක් සිදු නොවේ. මනීන්ද්‍රිය පිරිසිදු වීමත් සමඟ ම කෙනෙකුගේ ප්‍රඥාවත් ක්‍රියාත්මක වේ. මනීන්ද්‍රියෙන් තෝරා බේරා දුන් කළු ධර්ම, චිත්තසංථානයෙන් පිට කිරීම, බැහැර කිරීම, ප්‍රහාණය කිරීම සිදු කරන්නේ ප්‍රඥාවෙනි. ඒ නිසා ඒ අවස්ථාව වන විට, ශ්‍රද්ධා, වීර්යය, සති, සමාධි යන ඉන්ද්‍රියයන් හතරමත් ක්‍රියාත්මක වී කළු ධර්ම ප්‍රහාණය කිරීමට පඤ්ඤා ඉන්ද්‍රියයට උපකාර වේ.

මේ අනුව ඥාණ, දැනුම, උගත්කම එකතු කර ගැනීමට මනායතනය උපකාර වන අතර මනීන්ද්‍රිය මගින් ඒ එකතු කර ගත් ලෞකික ඥාණය පෙරා, ශුද්ධ පවිත්‍ර කර නිවන් අවබෝධයට අවශ්‍ය වන ප්‍රඥාව හා බුද්ධ ඥාණයන් උපදවා මතු කර දෙනු ලැබේ. එසේ නම් යෝනිසෝමනසිකාරය යනු මනීන්ද්‍රිය භාවිතා කරන අවස්ථාව ලෙස හැඳින්විය හැකිය.

මේ අනුව නිවන් අවබෝධ කර ගැනීමට උත්සාහ කරන හැම කෙනෙක්ම පළමු කොට ධර්මය අසා පරම පවිත්‍ර බුද්ධ ධර්මය ම අවධානයෙන් අසා සුතමයේ ඥාණයක් හා සුතමයේ පඤ්ඤාවක් ලබාගත යුතුයි. ඒ සුතමයේ පඤ්ඤාවෙන් තමාගේ ම චිත්තසංථානයේ ගබඩා වී පවතින, අරමුණු වශයෙන් සිතේ අරමුණු වන, කාම විතර්ක, ව්‍යාපාද විතර්ක, විහිංසා විතර්ක දැන හඳුනා ගැනීමටත් දැක ගැනීමටත් හැකියාව ලැබේ. එවැනි සිතක කාම විතර්ක මතු වන්නේ කාමාසව, දිට්ඨාසව, භවාසව, අවිද්‍යාසව, චිත්තසංථානයේ ගබඩා වී පවතින නිසාම බවත් දැක ගැනීමේ ශක්තියක් ලැබේ. මේ ශක්තිය ශ්‍රද්ධා බල, වීර්යය බල, සති බල, සමාධි බල, පඤ්ඤා බල ලෙසින් පෙන්වා වදාරා ඇත.

මෙවැනි කාම විතක්ක, ව්‍යාපාද විතක්ක, අවිද්‍යා විතක්ක සිතට අරමුණු වූ වහාම ඒවා දැන හඳුනා ගෙන, ඒවා ප්‍රහාණය කර, ඉවත්කළ යුතු බවත් ප්‍රඥාවෙන් ම දැක ගනී. මේ විතක්ක, විචාර යටපත් කිරීම පමණක් ප්‍රමාණවත් නොවන බවත්, මේවාට නිදාන වූ ආසව අනුසය සහමුලින් ම උදුරා, ගළවා දැමිය යුතු බවත් යථාපරිදි අවබෝධ කර ගනී. විපස්සනා නුවණින් විපස්සනා භාවනා කර්මස්ථානයක් භාවිතා කර ආසව, අනුසය ධර්මයන් කළු ධර්මයන් සමුච්ඡේද වශයෙන් ගළවා ඉවත් කිරීමටත් පියවර ගත හැකි වන්නේ ප්‍රඥාවෙන්මයි.

කාම විතක්කයන් ලෙස සිතකට අරමුණු වන්නේ ප්‍රිය රූපාරම්මණයක්, ප්‍රිය ශබ්දාරම්මණයක්, ප්‍රිය ගන්ධාරම්මණයක්, ප්‍රිය රසාරම්මණයක්, ප්‍රිය පොට්ඨබ්බා රම්මණයක් හෝ ප්‍රිය ධම්මාරම්මණයන්මයි. ඒ වාගේම ව්‍යාපාද විතක්ක විචාර ලෙස සිතකට අරමුණු වන්නෙත් අප්‍රිය රූපාරම්මණ, අප්‍රිය ශබ්දාරම්මණ, අප්‍රිය ගන්ධාරම්මණ, අප්‍රිය රසාරම්මණ, අප්‍රිය පොට්ඨබ්බාරම්මණ හා අප්‍රිය ධම්මාරම්මණයෝ යි. මේ කුමන ආකාරයේ හෝ අරමුණක් සිතේ පහළ වුවද අවිද්‍යාවෙන් හා තණ්හාවෙන්ම ඒ සංඛාරයන් සමඟ ඇලෙන්නට හෝ ගැටෙන්නට හෝ යොමුවේ නම් එතැනදී සිතේ ඇති වූ කැමැත්තට බැඳේ. එය පටිච්ච වීමයි.

පටිච්ච වූ සිතක් තමා ම නිරෝධ කර නොගත්තේ නම් ඒ අවස්ථාවේදී සමුදය ධර්මයකට ම බැඳී සංඛතයක් බිහි කර තමාම සංසාරයට බැඳේ. මේ ආකාරයට අවිද්‍යා මූලයෙන් සිතකට අරමුණු වූ සංඛාරයකට බැඳී ඒ සංඛාරය දිගේ සිතුවිලි පැවැත්වූවොත්, මුළු පටිච්චසමුප්පාද ක්‍රියාවලියම සිදු වී සංසාරයට බැඳීම සිදු වේ. මේ ක්‍රියාවලිය අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ක්‍රියාවලියයි. ප්‍රඥාව උපදවා පහදා ගත් පුද්ගලයෙකුට ධර්මය අසා තේරුම් ගත් කෙනෙකුට පටිච්චසමුප්පාද ක්‍රියාවලිය සිදුවන ආකාරය දැන ගත්තත්, නැතත් තමන්ගේ සිතේ මතු වූ ප්‍රිය ආරම්මණයට බැඳෙන බවත්, අප්‍රිය ආරම්මණයට ගැටෙන බවත් තේරුම් ගැනීමෙන් ඒ ආරම්මණයට නොබැඳී, නොඇලී, නොගැටී, මුළා නොවී කටයුතු කිරීමට අනිච්ච, දුක්ඛ, අනත්ථ ත්‍රිලක්ඛණය භාවනා කර සිතේ ඇති වූ සංඛාරය නිරෝධ කර සමුදය ධර්මයක් බිහිවීම නවතා ගන්නටත් හැකියි. එසේ නැත්නම් ඒ ප්‍රිය හෝ අප්‍රිය හෝ ආරම්මණයට පටිච්ච වීමේ ගතිය උදුරා දමා නිදහස් වීමටද හැකියාව තිබේ.

මේ හැම විපස්සනා භාවනාවක් ම වැඩීම සඳහා ද්වතාව ධර්මය හා ආනාපානසති භාවනාව නිවැරදිවම තේරුම් ගත යුතුයි. ද්වතාව ධර්මය තේරුම් නොගත් කෙනෙකුට කළු ධර්ම හා සුදු ධර්ම වෙන් කොට දැන හඳුනා ගත නොහැකියි. අවිද්‍යාමූල හා කුසල මූල ධර්ම වෙන් කොට දැන හඳුනා ගත නොහැකියි. ආසව හා ආනිසංස දැන හඳුනා ගත නොහැකි වේ. භාවිතා කළ යුතු දේ හා භාවිතයෙන් බැහැර කළ යුතු දේ දැන හඳුනා ගත නොහැක. ඒ නිසාම ආනාපානසති භාවනාවක් වැඩීමද කළ නොහැක. අස්ස කළ යුතු දේ හා පස්ස කළ යුතු දේ වෙන්කර තේරුම් ගැනීමට නොහැකි වූ ද්වතාව තේරුම් නොගත් අය හුස්ම ගැනීම හා පිට කිරීම පමණක් කරනු මිස ඇතුළට ගත් සුදු ධර්ම හා පිට කළ යුතු කළු ධර්ම ගැන තේරුම් නොගනී.

මනසේ ශක්තිය උසස් තත්ත්වයට පත්කර ගැනීමේ ශක්තිය ද, හැකියාව ද සහිත මිනිසෙකු ලෙස උපත ලැබූ හැම කෙනෙකුටම ඥාණය යන දැනුමත් ලබාගත හැකියි. උතුම් බුද්ධ ධර්මය අසා ධර්ම ඥාණය ලබා ගත හැකි වන්නේ පෙර කළ පින් ඇති නිවන් දැකීමේ අධිෂ්ටානයෙන් ක්‍රියාකරන මිනිසුන් කොටසකට පමණි. අද ලංකාවේම උපත ලත් හැම කෙනෙකුටමත් මේ උතුම් ධර්මය අසා ශ්‍රවණය කර දැනුමක්, නුවණක් ලබාගත හැකිව තිබුණත් මේ ධර්ම මාර්ගයට අනුගත වී ප්‍රඥාව උපදවා පහදා ගත හැකි වන්නේ අතළොස්සකට පමණි.

ප්‍රඥාව තවත් කාගෙන් හෝ ලබා ගත නොහැකි තමන්ගේ ම අධ්‍යාත්මය තුළින්ම ලබා ගත යුතු පිරිසිදු ශක්තියක් බව හැම කෙනෙකුම තේරුම් ගත යුතුයි. නුවණක් නැතිව, දැනගත යුතු දේ අසා දැනගන්නේ නැතිව, ප්‍රඥාව යන ශක්තිය කෙනෙකුට උපදවා පහදා ගත නොහැකියි. ප්‍රඥාව යන වචනයෙන් අදහස් කරන්නේ සංවර්ධනයක් හෝ දියුණුවක් හෝ යන අදහසක් නොවේ. ප්‍රඥාව යනු පිරිසිදු වීමක්, පිවිතුරු වීමක්, ප්‍රභාශ්වර තත්ත්වයට සිත පත් වීමකි. භාවිතා කළ යුතු දේ හා භාවිතයෙන් බැහැර කළ යුතු දේ යන ක්‍රියාමාර්ග දෙකෙන්ම වන්නේ පිරිසිදු වීමයි. කළු, කැත, කිළිටි, කුණු බැහැර කළ යුතුයි. සුදු, පිරිසිදු දේ ඇතුළට ගත යුතුයි.

අපි මේ සංසාරයේ අතීත කල්ප කාලාන්තරයක් පුරාම ඥාණය, දැනුම, එකතු කර රැගෙන ආවද මේ එකතු කර ගන්නා දැනුම, ඥාණය පිළිබඳ ඇත්ත ඇති ලෙස පිරිසිඳ දැක ගෙන නොමැත. එසේ පිරිසිඳ දැක ගත්තා නම් දුකට මුල්වන, දුක්ඛ සමුදයට මුල් වන, දුක්ඛ නිරෝධයට උපකාර වන, දුක්ඛ නිරෝධගාමී ප්‍රතිපත්තිය අනුගමනය කර තිබිය යුතුයි. මේ චතු අරිය සත්‍යය ධර්මයේ පෙන්වා වදාළ දුක හා දුක්ඛ සමුදය මෙන් ම දුක්ඛ නිරෝධයත් අරිය උත්තමයෙකුගෙන් අසා දැන ඥාණයෙන් ම අවබෝධ කරගත යුතු ධර්මයෝය. ඒවා අසා දැන පිරිසිඳ දැකගත්තා නම් දුක්ඛ නිරෝධගාමී පටිපදාවත් අනුගමනය කරයි.

මේ අනුව ඥාණය යන අර්ථයෙන් පෙන්වා වදාළ දැනුමත් ඉතාමත් ම වැදගත්ය. අඥාණ පුද්ගලයෙකුට කෙසේවත් චතු අරිය සත්‍යයන්, පටිච්චසමුප්පාද ධර්මය වැනි දේ තේරුම් ගැනීම හෝ අනුගමනය කිරීම හෝ කළ හැකි නොවේ. දැනීම හා දැකීම යන ජානතෝ, පස්සතෝ යන පියවර දෙකම නිවන් අවබෝධයට එක සේ වැදගත් පියවරයන් දෙකකි. "භව උදුරා දමා" බුද්ධත්වයට පත් වීමට නම් ඥාණය හා ප්‍රඥාව යන දෙකම නිවැරදි ලෙසම දැන ගැනීමත්, දැක ගැනීමත්, අනුගමනය කර අත්විඳ ගැනීමත් අවශ්‍යමයි. බුද්ධත්වය යන භව උදුරා දැමීම නොකර කෙනෙකුට අරහත් බුද්ධ, පසේ බුද්ධ, ලොව්තුරා බුද්ධ යන තුන්තරා බෝධියෙන් එක් බෝධියකට පත් වීමටත් නොහැකියි.

ගෝතම බුදුපියාණන්වහන්සේ පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයේදී දේශණා කර වදාළේ "වේදනා පච්චයා තණ්හා, තණ්හා පච්චයා උපාදාන, උපාදාන පච්චයා භවෝ, භව පච්චයා ජාති, ජාති පච්චයා ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස" යනුවෙනි. මෙය අවිද්‍යා ප්‍රත්‍යයෙන් සිදුවන හේතු ඵල ක්‍රියාදාමය යි. ජාතියක් ඇති වීමට, ජාතියක ඉපදීමට නියත වශයෙන්ම හේතු වන මූලිකම කාරණය "භව" යන අවස්ථාවයි.

"භව" යන පදයෙන් අදහස් වන්නේ උපතක් හෝ ජාතියක් හෝ යන අර්ථයෙන්ම නොවේ. "භව" යනු උපතක් යනුවෙන් තේරුම් ගත් බොහෝම උගත් බෞද්ධයින් පවා, අවිද්‍යාවෙන්ම නැවතත් සංසාරයේම අතරමං වී ඇත. "භව" යනු බීජ අවස්ථාවයි. "ජාති" යනු බීජයක් උපත ලබා පැළ වූ අවස්ථාවකි. "භව" නිරෝධ කිරීමෙන්ම ජාති නිරෝධ කර ගත හැකි බව හැම කෙනෙකුටම තේරුම් ගත හැකියි. මේ ඉපදී ජීවත් වන ජාති නිරෝධ කළ නොහැකියි. නමුත් මේ ජීවත් වී සිටින කාල පරාසය තුළදී ම නිවැරදි ලෙසින් ධර්මය අසා ධර්මාවබෝධයක් ලබාගෙන ඕනෑ ම මිනිසෙකුට ධම්මානුධම්ම පටිපදාවේ යෙදීමෙන් "භව" නිරෝධ කරගත හැකියි. "භව" නිරෝධ කළවිට මතු "ජාති" ත් නිරෝධයි. ජාති නිරෝධ කර ගත් විට මතු ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස යන සියලුම දේ නිරෝධ කර ගත හැකි වේ.

මේ අනුව මුළු බුද්ධ ධර්මයම, පටිච්චසමුප්පාද ධර්මය ම දේශණා කර, විග්‍රහ කර, පැහැදිළි කළේ "භව" උදුරා දැමීම ම නිවන යන අදහස ඇතිවයි. අවිද්‍යා, සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ස්පර්ශ, වේදනා, තණ්හා, උපාදාන යන සියලුම අවස්ථාවන් නිරෝධ කිරීමෙන් බලාපොරොත්තු වන්නේත් "භව" යන බීජ අවස්ථාව නිරෝධ කිරීමයි. සංඛාර, විඤ්ඤාණ ආදී මේ මුල් අවස්ථා නවයම "සමුදය" තත්ත්වයට පත් වන්නේ "භව" යන අවස්ථාවට කර්ම බීජයක් ලෙසින් සකස් වීමෙන් පසුවයි.

මේ නිසා අලුතින් කර්ම බීජ සකස් වීම වැළැක්වීමටත්, අතීතයේ සකස් කර එකතු කර, ගබඩා කර ඇති සියලුම කර්ම බීජ ඇහැ කර, විනාශ කර දමන්නටත් මඟ පැහැදිළි කර දුන්නේ බුද්ධ දේශණාවෙන් පෙන්වා වදාළ පටිච්චසමුප්පාද විග්‍රහයෙනි. ඒවාගේම කර්ම බීජ සකස් වීමට මූලිකවම උපකාර වන යාන්ත්‍රණය සහමුලින්ම චිත්තසංථානයෙන් ඉවත් කරගැනීමට සමුච්ඡේද වශයෙන්ම ගළවා ඉවත් කිරීමට උපකාර වන්නේත් කුසලමූල පටිච්චසමුප්පාද විග්‍රහයෙන් පෙන්වා වදාළ කුණු මුල් සොළවා, ගළවා, අස්කර දැමීමේ ප්‍රතිපත්ති මාර්ගයයි.

බුද්ධ ධර්මයේ "භව" යන පදය "භවය, භවයක්" ලෙස අදහස විකෘත කර ජාතිය හා භව එකම අර්ථයකින් තේරුම් කිරීම නිසා "භව" නිරෝධ කර ගැනීමේ ක්‍රියාවලිය ප්‍රායෝගිකව ක්‍රියාවට නැගිය නොහැකි වී තිබේ. සංසාර ගමන දිගින් දිගටම නොනවත්වාම පවත්වා ගෙන යන බලවේගය කෙනෙකුගේ චිත්තසංථානයක් තුළ පවතින රාග බව, ද්වේෂ බව, මෝහ බව ගබඩා වී, තැන්පත් වී ශක්තියක් ලෙසින් "සංභව" ක්‍රියාත්මක වී තණ්හාවෙන්, අවිද්‍යාවෙන් පංචඋපාදානස්කන්ධයම උපාදානය කර, සංසාරයට බැඳී හේතුඵල පරම්පරාවක් ක්‍රියාත්මක කිරීමේ වැඩපිළිවෙළයි. මේ වැඩ පිළිවෙළ නිමා කිරීමට නම් ගමනට ශක්තිය ලබා දෙන ශක්ති උල්පත වූ රාග බව, ද්වේෂ බව, මෝහ බව නිරෝධ කිරීම කළ යුතුයි. මෙහි "බව" හා ධර්ම විග්‍රහයේ "භව" යනු එකම අදහසයි. ඒ නිසාම බුද්ධ දේශණාවේ නිවන විග්‍රහ කිරීමේදී "රාගක්ඛයෝ, ද්වේෂක්ඛයෝ, මෝහක්ඛයෝ නිබ්බානං" යනුවෙන් විග්‍රහ කර ඇත.

රාග බව, ද්වේෂ බව, මෝහ බව යනු සංසාර පුරුද්දකි. ගතියකි. ප්‍රිය මධුර දේට කැමැත්තෙන් ඇලෙන, බැඳෙන, එකතුවන ගතිය මේ සංසාර ගමනට මූලික ම හේතුවයි.

මේ ප්‍රිය මධුර වස්තූන් දිගටම හැමදාම එකම ආකාරයට තමන්ගේ කැමැත්ත පරිදිම "නිච්ච" වශයෙන්ම පවත්වා ගැනීමට සෑම පෘථග්ජන පුද්ගලයෙකුම නිරන්තරවම උත්සාහයක යෙදේ. මේ ආකාරයට ප්‍රියයි, මධුරයි යනුවෙන් අරමුණක් තමන්ගේම කර ගැනීමටත්, ඒ ප්‍රිය මධුර දේ ඒ ආකාරයෙන් ම පවත්වා ගැනීමටත් ඇති වූ කැමැත්ත සැප ලෙස හැඳින්වේ. ඇස, කන, නාසය, දිව, කය, මන පිනවන, සතුටු කරවන දේට ඇලීම, බැඳීම හා ඒවා තමන් සතුකර, උපාදානය කර ගැනීම කාම තණ්හාවයි. කය රමණය කිරීමට උපකාර වන ඉන්ද්‍රියයන් පිනවන සියලුම ප්‍රිය, මධුර ක්‍රියාවන්ට හිතින් බැඳීම කාම තණ්හා වේ. අතීතයේ කුමන ආකාරයක උපතක් ලැබුවද සෑම සත්ත්වයෙකුම, ප්‍රේතයෙකුම, භූතයෙකුම, දෙවියෙකුම පුරුදු වී ඇත්තේ ඉන්ද්‍රියයන් පිනවා යම් ආස්වාදයක් විඳීමේ ගතියක්, පුරුද්දක් ඇති කර ගෙන ඒ මගින් විඤ්ඤාණ ආහාර, සංචේතනා ආහාර, ස්පර්ශ ආහාර මෙන්ම කබලිංකාර ආහාරත් සොයා ගැනීමටයි. මෙය සංසාර පුරුද්දකි. සබ්බේ සත්තා ආහාරට්ඨිතිකා යනුවෙන් විග්‍රහ වන්නේ ඒ හේතුවෙනි.

රාගයෙන් තමන් කැමති වූ දෙයක් තමන්ගේ කැමැත්ත පරිදිම, මනාපය පරිදිම රිසි පරිදි ම දිගට ම පවත්වා ගැනීමට නොහැකි වූ විට ඒ රාග සිතේම දෙවන වේෂයක් මතු වේ. ඒ දෙවන වේෂය නිසාම තරහ, වෛරය, ක්‍රෝධය, ඊර්ෂ්‍යාව, පටිසය වැනි ගති තම සිත තුළදීම උපදී. රාග හා ද්වේෂ ගති දෙකම නිසා මෝහය උත්පාදනය කර ගනී. නැත්නම් තමාම තමන්ගේම මනස රාගයෙන්, ද්වේෂයෙන් මුවහ කර වසා ක්‍රියා කරයි. මේ තුන්වන කිළිටි වීම නිසා නුවණ, ප්‍රඥාව යන ශක්තීන් දෙකමත් කෙනෙකුට නැතිව යයි. ඥාණය හා ප්‍රඥාව නැති කෙනෙකු අඥාණ, දුප්පඤ්ඤස්ස පුද්ගලයෙකි. මනස දුර්වල වී මෝහයෙන් ක්‍රියා කරන විට පව්කම්, අවැඩ, අසාධාරණ, වැරදි, හිංගි, හිංසා කිරීම නිසා තමාට මෙන් ම බාහිර ලෝකයාටද බරක් වන පුද්ගලයෙකු බවටද පත් වේ. අවසානයේදී මනසින් ක්‍රියාකළ හැකි මිනිසෙකු යන තත්ත්වයෙන් ද ඉවත් වී සතර මහා නිරයටම අපාගත වේ. මේ තත්ත්වයට පත් වූ කෙනෙකුට බුදු බණ හෝ ලෞකික ධර්මයක් හෝ අසා තේරුම් ගැනීමටද නොහැකියි. අතීතයේ කරන ලද යම් යම් පින්කම් හා කුසල් නිසා අද මිනිසත් බවට පත් වූවත් මේ මිනිස් උපතේදී කරන ලද නොමිනිස්කම් නිසා තම තමන්ම මිනිසත් බව විනාශ කර ගනී.

මිනිසෙකු ලෙසින් උපතක් ලැබූ හැම කෙනෙකුම තේරුම් ගත යුතු වන්නේ තමන්ම සංසාරයේදී පුරුදු කරගත් කැමැත්තෙන් ම පුහුණු කරගත් ගති හතරක් තමන් තුළම පවතින බවයි. මේ මූලික ගති හතර පිළිබඳව සෑම මිනිසෙකුටම යම්කිසි අවබෝධයක් තම තමන්ගේ ඥාණ ශක්තියට අනුව ම ලබා ගත හැකියි. මේ ගති හතර දිට්ඨි, සුත, මුත, විඤ්ඤත යන ගති හතරයි. පුරුදු හතරයි. මේ ගති හතර ම මේ ජීවිතයේ දී පමණක්ම පුරුදු කරගත් ගති හතරක් නොවේ. අනන්ත අප්‍රමාණ වූ අතීත සංසාරයේදී තමාම පුරුදු කරගත්, පුහුණු කරගත් ගති හතරකි. අදටත් තමන් පෘථග්ජන පුද්ගලයෙකු ලෙසින් ජීවිතය පවත්වන්නේ මේ පුරුදු හතර නිසාමයි. මේ පුරුදු හතර,

1. ඇසින් දුටු දේ
2. කනෙන් ඇසූ දේ
3. නාසයෙන්, කටින්, කයෙන් වින්ද ආස්වාදය
4. මනසින් සිතීමේ විඤ්ඤාණ ශක්තිය

මේ පුරුදු හතරෙත් අන්ත දෙක බැගින් ම ක්‍රියාත්මක වේ. මේ අන්ත දෙක ප්‍රිය අන්තය හා අප්‍රිය අන්තයයි. ඇසින් දුටු රූපය ප්‍රිය නම් තමන්ගේ අතීත පුරුද්දට ගැළපෙයි නම් ඒ රූපයට ප්‍රිය වේ. කැමති වේ. ඒ ප්‍රිය රූපයෙන් සිත මත් වේ. එහෙමත් නැත්නම් තණ්හාවෙන් උපාදානය කර ගනී. ඇසෙන් දුටු රූපය අප්‍රිය එකක් නම් අතීතයේ කවදා හෝ තම මනසට අප්‍රිය නොගැළපෙන ස්වරූපයේ රූපයක් නම් ඒ රූපයට අකමැත්තක් ඇති වේ. ද්වේෂයක් සිතේ හට ගනී. තරහ, වෛරය, ක්‍රෝධය, ඊර්ෂ්‍යාව සිතේ හට ගනී. මේ ප්‍රිය, අප්‍රිය දෙකම අන්ත දෙකකි.

මේ දෙයාකාර වූ අන්ත දෙකෙන් කුමන අන්තයකට හෝ පටිච්ච වීමක් සිතේ ඇති වුවද එය හොඳ ලක්ෂණයක් නොවේ. කැමැත්තෙන් ප්‍රිය රූපයකට බැඳුණු විට සිත විඤ්ඤාණ තත්ත්වයෙන්ම මත්වී ක්‍රියාත්මක වන නිසා ප්‍රිය රූපයට ඇති වූ කැමැත්ත බලවත් වේ. පටිච්ච වීම අභිඉච්ච තත්ත්වයටම පත්වේ. අභිඉච්චාව යනු දැඩි ආසාවයි. අභිඉච්ච වූ සිතේ කිළිටි බවක් ඇති වේ. මේ ප්‍රිය රූපයට බැඳී, ඇලී සිටීමේ නියත වූ කැමැත්තක් ඇති වේ.

ඒ සිතක් කිළිටිවීමේ නියත ලක්ෂණයකි. ඒ නිසාම ප්‍රිය රූපය ඒ ප්‍රිය ආකාරයෙන්ම නිච්ච ලෙසින් පවත්වා ගැනීමේ ආශාවක් උත්සාහයක් සිතට ඇති වේ. මේ ගතිය "නිච්ච ගතිය" යි. නිච්ච සංඥාවයි. නිච්ච සංඥාවක් නිසා කිළිටි වී "විචිකිච්චා'' යන කිළිටි තත්ත්වයට සිත පත්වේ. මෙසේ සිත කිළිටි වීම නිසා, සිතේ අසහනයක්, වික්ෂෝප බවක් ඇති වේ. මේ වික්ෂෝප බවට පත් වූ සිතක් "උද්ධච්ච" සිතක් බවටද පත් වේ.

මේ ආකාරයටම අප්‍රිය රූපයක් සමඟ සිතේ ද්වේෂයක්, ගැටීමක්, විරෝධයක් ඇති වූ විට එතැනදීත් සිතේ ඒ අප්‍රිය රූපය සමඟත් "පටිච්ච" වීමක් සිදු වේ. මුල් අවස්ථාවේ ප්‍රිය රූපයට ඇලීමේ අවශ්‍යතාව නිසා "පටිච්ච" වූ අතර මේ අවස්ථාවේ දී අප්‍රිය රූපයට ගැටී, එය ඉවත් කිරීමේ, විනාශ කිරීමේ අවශ්‍යතාවක් නිසා "පටිච්ච" වේ. මේ පටිච්ච වීම නිසා තරහ, වෛරය, ඊර්ෂ්‍යාව, ක්‍රෝධය හට ගනී. එතැනදීත් තරහකාරයා, වෛරක්කාරයා යන "නිච්ච" සංඥාවක් සිතේ හට ගනී. ඒ අනුවම විචිකිච්චාව, උද්ධච්ච යන ගති ලක්ෂණත් සිතේම මුල් බැස ගනී.

රූපය - දිට්ඨ, ශබ්දය - සුත, ස්පර්ශය- මුත, සිතුවිල්ල- විඤ්ඤාත යන පුරුදු හතරක්ම ම ප්‍රිය හා අප්‍රිය යන අන්ත දෙකෙන් ම පෘථග්ජන පුද්ගලයෙකුගේ සිතක් සංසාරයට බැඳ තබයි. සම්බන්ධ කරයි. මෙය පුරුද්දක් ලෙස අර්ථ දැක්වේ. ප්‍රිය දේට ඇලීමත්, අප්‍රිය දේ සමඟම ගැටීමත් ඒ අනුව හැම පෘථග්ජන පුද්ගලයෙකුම අතීත සංසාරයේ හුරු පුරුදු කර ගත් ගතියක් මිස හදිසියේ ගහෙන් ගෙඩි එන්නා සේ අහම්බෙන් සිදු වූ දේ නොවේ. දිගින් දිගටම පුරුදු කර ගත් ගති පුරුදු හතරකි.

ඒ ඒ පුද්ගලයා තම තමන්ටම ආත්මීය වූ පෞද්ගලික වූ හුරු පුරුදු ඇති කරගෙන තිබේ. කෙනෙකුට ප්‍රිය රූපයක් තවත් කෙනෙකුට අප්‍රිය එකකි. කෙනෙකුට ප්‍රිය රසක් තවත් කෙනෙකුට වමනේ යන තරම් අප්‍රියයි. උදාහරණයක් ලෙස හොඳින් ඉදුණු දූරියන්

ගෙඩියක රූපය, සුවඳ ආඝ්‍රාණය වීමත් සමඟ ම කෙනෙකුට එහි රසය සිහිපත් වී කටට කෙළ උණයි. ඒ රසය අමෘත්තයක් සේ දැනෙයි. තවත් මිනිසෙකුට ඒ සුවඳම, ඒ රූපයම, ඒ රසයම වමනෙ යන තරමටම අප්‍රියයි. මේ අන්ත දෙකෙන් එකක් හෝ දූරියන් ගෙඩියේ හෝ රසයේ හෝ ගඳ සුවඳේ හෝ පවතින ලක්ෂණ නිසා ඇති වූ දේ නොවේ. ඒ ඒ පුද්ගලයාගේ ම සිතේම අබ්බැහි වූ, හුරු පුරුදු වූ ගති දෙකකි.

මේ අන්ත දෙකම පටිච්ච වීමක් බවත් නිවැරදිව ම තේරුම් ගත යුතුයි.

චක්ඛුං ච පටිච්ච රූපේ ච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං
සෝතං ච පටිච්ච සද්ධං ච උප්පජ්ජති සෝත විඤ්ඤාණං
ඝානං ච පටිච්ච ගන්ධං ච උප්පජ්ජති ඝාන විඤ්ඤාණං
ජිව්හා ච පටිච්ච රසේ ච උප්පජ්ජති ජිව්හා විඤ්ඤාණං
කායං ච පටිච්ච පොට්ඨබ්බං ච උප්පජ්ජති කාය විඤ්ඤාණං
මනං ච පටිච්ච ධම්මේ ච උප්පජ්ජති මනෝ විඤ්ඤාණං

මේ ආකාරයට ඇස හා රූපය යන දෙක පටිච්ච නොවුණි නම් විඤ්ඤාණ ශක්තියක් මතු විය නොහැකියි. ගිනි කූරත්, ගිනි පෙට්ටියත් දෙක එකට ගැටීමෙන් ගින්දර හටගන්නා සේ මේ අභ්‍යන්තර හා බාහිර ආයතන දෙකම පටිච්ච වීමෙන්ම විඤ්ඤාණයක් හට ගනී. විඤ්ඤාණ ශක්තියත් ගින්දර හා සමාන දෙයකි. ජීවත් වීමට අවශ්‍ය වන රිය ගමන ක්‍රියාත්මක කරනු ලබන ඉන්ධන ශක්ති ප්‍රභවය මේ විඤ්ඤාණ ශක්තියයි.

"තින්නං සංගති පස්සෝ, සංපස්සජා වේදනා," චක්ඛු (ඇස), රූපය හා චක්ඛු විඤ්ඤාණය යන ගති තුන එකට ස්පර්ශ වීම නිසා වේදනාවක් සිතේ උපදී. මේ වේදනාව උපදින්නේ ප්‍රිය හෝ අප්‍රිය අරමුණු අනුවමයි. ප්‍රිය රූපයක් නම් සැප වේදනාවක්, අප්‍රිය රූපයක් නම් දුක් වේදනාවක්, එහෙමත් නැත්නම් අදුක්ඛම අසුඛ වේදනාවක් සිතේ හටගනී. චක්ඛු හා රූපය පටිච්ච වීම වළක්වා ගත හැකි නම් සිත උපේක්ඛා යන තත්ත්වයට පත් කර ගත හැකි නම් එතැන දී පටිච්ච වීම නොවූ නිසාම සිතේ නිච්ච සංඥාවක් නොඋපදී. අභිජ්ඣා යන දැඩි ලෝභය සිතේ හට නොගනී. විචිකිච්චා යන සිත කිළිටි වීමක් සිදු නොවේ. උද්ධච්ච යන සිතේ අසහනයක්, වික්ෂෝප වීමක් සිදු නොවේ. මේ උපේක්ඛා යන තත්ත්වය ප්‍රිය අප්‍රිය අන්ත දෙකෙන් ම මිදීමක් මිස මේ අන්ත දෙක මැදට පැමිණීමක් නොවේ. බොහෝ අය උපේක්ඛා යනු ප්‍රිය අප්‍රිය යන අන්ත දෙකේ මැදිහත් තත්ත්වයකට පැමිණීම ලෙස විස්තර කරනු ලැබේ. නමුත් "උපේක්ඛා" යනු අන්ත දෙකෙන්ම මිදී, නො ඇලී, නො ගැටී, ඉවසා, විමසා ක්‍රියා කිරීමේ ශක්තියයි.

"දිට්ඨේ දිට්ඨ මත්තං භවිස්සති
සුතේ සුත මත්තං භවිස්සති
මුතේ මුත මත්තං භවිස්සති
විඤ්ඤාතේ විඤ්ඤාත මත්තං භවිස්සති"

යනුවෙන් බාහිය දාරුචීරියතුමාට බුදුපියාණන්වහන්සේ දේශණා කර වදාළේ මේ ධර්ම කාරණයයි. මේ ගාථාවේ "භවිස්සති" යන පදය ඉතාමත් ගැඹුරු අර්ථයක් දෙන ධර්ම පදයකි. දුටුවොත් දුටුවා පමණය යනුවෙන් මෙහි තේරුම තේරුම් ගැනීම ධර්මාවබෝධයක් ලබා නැති බව යනුවෙන් දැනගත යුතුයි.

දුටුව දේ දැකීම් මාත්‍රයකට සීමා කර ගැනීමට ඒ කෙරේ උපේක්ඛාවෙන් බලා එහි ඇති "සංභව" ශක්තිය වෙන් කර සිතින් අස්කර ගත යුතුයි යනු මෙහි තේරුමයි. පටිච්චවීම වැළැක්වීමට උපේක්ඛාවෙන් අන්ත දෙකෙන් එකකට හෝ නොබැඳී, "තින්නං සංගති" යන තත්ත්වයටත් පත්වීමෙන් ද වැළකී "සං පස්සජා වේදනා" යන තත්ත්වයෙනුත් මිදීමට බාහිය දාරුචීරියතුමාට දුන් උපදේශයක් "භවිස්සති" යනුවෙන් විග්‍රහ වේ. යම් කෙනෙකුට දිට්ඨ, සුත, මුත, විඤ්ඤාත යන සංසාර පුරුදු හතරම උපේක්ඛාවෙන් ඉවසා, විමසා අන්තයන් දෙකටමත් නොබැඳී මැද කොයියම්ම තැනකට හෝ නොබැඳී, ඇලීමෙන් හා ගැටීමෙන් සහමුලින්ම මිදී නිදහස් වීමේ ශක්තියක් සිතේ ඇති කර ගත හැකි වේ නම් ඒ පුද්ගලයා අරහතුන්වහන්සේ කෙනෙකු බවටම පත්වේ. ඒ නිසා "උපේක්ඛාව" යනු අරහතුන්වහන්සේගේ ලක්ෂණයකි. පෘථග්ජන පුද්ගලයෙකු තුළ පරිපූර්ණ "උපේක්ඛාව" යන තත්ත්වයක් කිසිම විටෙකත් ඇති නොවේ.

මේ අනුව බුද්ධ භාෂිතයේදී පැහැදිළි වන ආකාරයට යමෙකු උපේක්ඛා පාරමිතාව සම්පූර්ණ කර ගත්තේ නම් ඒ මොහොතේ දී එම පුද්ගලයා පෘථග්ජන තත්ත්වයෙන් මිදී අරහත් තත්ත්වයට පත්වේ. බුදුපියාණන් වහන්සේ පවා අරිය ආනාපානසතිය වඩා ඇසතු බෝ මුල දී මෙම "උපේක්ඛා" පාරමිතාව සම්පූර්ණ කර බුද්ධත්වයට පත් වූහ. මේ අනුව හැම කෙනෙකුටම ඒ උතුම් අරිය ආනාපානසතිය නිවැරදිවම වැඩිය හැකි නම් කෙටි කාලයක් තුළදීම "අනිච්ච දුක්ඛ අනත්ථ" යන ත්‍රිලක්ඛණය භාවිතා කර නිච්ච සංඥා, සුඛ සංඥා, අත්ථ සංඥා ප්‍රහාණය කර උපේක්ඛා තත්ත්වයට තමාගේම සිත පත්කර දස සංයෝජනය ප්‍රහාණය කර ආසව අනුසය පරික්ඛීණා කර අරහත් තත්ත්වයට ම පත් වීමටත් හැකියාව ඇත.

මේ ආකාරයට අරහත් තත්ත්වයට පත් වූ අරහතුන්වහන්සේගේ තත්ත්වය ධර්මයේ විග්‍රහ වන්නේ මේ පද හතරෙනි.

"දිට්ඨේ දිට්ඨ වාදිතා
සුතේ සුත වාදිතා
මුතේ මුත වාදිතා
විඤ්ඤාතේ විඤ්ඤාත වාදිතා"

"වාදිතා" යන පදයෙන් විග්‍රහ කර මෙතැනදී පෙන්වා දුන්නේ වේදනාවෙන් තොර වින්දනයක් නොලබනවාය යන උපේක්ඛා තත්ත්වයයි. ඒ නිසාම "වාදිතා" යන පදය පටිසම්භිදා මග්ගේ දී විග්‍රහ වන්නේ මේ ආකාරයටයි.

"න කම්පති, න වේදති, න චලති, න භයති
අවික්ඛේපෝ හෝති"

යම් කෙනෙකුගේ සිතක් ලෞකික අරමුණුවලට නො ඇලී, නො ගැටී, නො පැටලී, මුළා නොවී, කම්පනයට පත් නොවී, භයට තැති ගැනීම් වලට පත් නොවී, වේදනා විඳීමෙන් තොර වූ තත්ත්වයට පත් වී නම් ඒ පුද්ගලයාගේ සිතේ "උද්ධච්ච" යන ගතිය

සහමුළින්ම ඉවත් වී "ධම්ම උද්ධච්ච විග්ගහිත මානසං" යන නිවන් අවබෝධයට පත් වූ කෙනෙකුම බවට පත් වේ. පටිසම්භිදා මග්ගප්ප්‍රකරණයේ මේ බව ඉතාමත් ම පැහැදිළිව දේශණා කර ඇත.

හය ආකාර වූ විඤ්ඤාණ ශක්තීන් සිතක බිහි වන්නේම හට ගන්නේම පටිච්ච වීම මුල් කර ගෙනමයි. එක අතකින් අප්පුඩි ගසන්නට නොහැකි සේම ඇස, කන, නාසය, දිව, කය, මනස යන ඉන්ද්‍රියයන් තිබූ නිසාම ඒවා බාහිර වූ රූප, ශබ්ද, ගඳ සුවඳ, රස පහස, ධම්ම යන බාහිර ආයතනත් සමඟ පටිච්ච නොවූයේ නම් කිසිවිටකත් විඤ්ඤාණ ශක්තියක් උපත නොලබයි. විඤ්ඤාණ ශක්තීන් උපත නොලබන විට "සංපස්සජා වේදනා" උපත නොලබයි. ඒ අනුවම "භව" ද උපත ලැබිය නොහැකියි. එය නිවනට නිවැරදි මාර්ගය යි. භව නිර් - උදා වීම යි.

යහපත් මිනිසෙකු ලෙසින් සමාජයේ හැසිරෙන්නටත්, සමාජ දුකෙන්, සංසාර දුකෙන් මිදී නිදහස් වන්නටත් අරිය සත්‍යයන් වූ දුක පිළිබඳව ඇත්ත ඇති සැටියෙන් අවබෝධ කර ගන්නටත් මිනිසෙකුට හැකියාව හා ශක්තිය ලැබෙන්නේ තමන්ගේ සිත තුළින්ම ලෝකය සමඟ "පටිඉච්ච" වීමේ අන්ත ගති ලක්ෂණය සිතින් උදුරා ඉවත් කර දැමීමෙනුයි. පටිඉච්ච වීමේ ආදීනව හා ආනිසංස යථාපරිදි දැක ගැනීමෙනුයි. ඉච්ච, පටිඉච්ච, නිච්ච, අභිඉච්ච ගති ලක්ෂණ තමාගේ සිතේ පහළ වීමත් සමඟම සිත කිළිටි වේ. විඤ්ඤාණ ශක්තියද බලවත් වේ. "විචිකිච්චා" සිතක් බවටම පත් වේ. සිතේ සහනය, සමථය, නිවීම නැති වී උද්ධච්ච සිතක් ලෙසින් සිත ක්‍රියාත්මක වේ. සංසාර පැවැත්මට උපකාර වන්නේ පෘථග්ජන සිතක මේ ගති ලක්ෂණයන් මුල් බැසගෙන පවතින ස්වභාවයමයි.

මේ අනුව ගෝතම බුදුපියාණන්වහන්සේ මිනිසුන්ට දේශණා කර වදාළ උතුම් බුද්ධ ධර්මය ඉතාමත් ම සරළ පැහැදිළි ධර්මයකි. විඤ්ඤාණය යන ශක්තිය තමන් තුළ ම ක්‍රියාත්මක වන තුරාවට පෘථග්ජන හැම කෙනෙකුම විඤ්ඤාණයේ මවා පෑම් වලට අසුවී, රාගයෙන්, තණ්හාවෙන් ඇලී, අවිද්‍යාවෙන් මෝහයෙන් මුළා වී, සාරවත් දේ එකතු කරමින් සංසාර ගමනක් යයි. සංසාරයට බැඳී දුක් විඳී. අනිච්චානුපස්සනාව ප්‍රත්‍යක්ෂ කර "නිච්ච" සංඥාව ප්‍රහාණය කිරීමටත්, දුක්ඛානුපස්සනාව වඩා දුක යනු කුමක්ද යන්න ප්‍රත්‍යක්ෂ කර සුඛ සංඥාව ප්‍රහාණය කිරීමටත්, අනත්ථානුපස්සනාව වඩා ආත්ම අනාත්ම අන්ත දෙකටම නොවැටී අත්ථ සංඥාව ප්‍රහාණය කිරීමටත් හැකි වූ අවස්ථාවක ත්‍රිලක්ඛණය සම්පූර්ණ වීමෙන් පුද්ගලයෙකු අරිය මාර්ගයටම අවතීර්ණ වීම අනිවාර්යයෙන්ම සිදුවීම කිසිවෙකුටත් වැළැක්විය නොහැකියි.

## අනුබෝධ ඥාණය හා ප්‍රතිවේධ ඥාණය

"දුක්ඛං අරිය සච්චං පරිඤ්ඤෙයියන්ති මේ භික්ඛවේ.
පුබ්බේ අනනුස්සුතේසු ධම්මේසු චක්ඛුං උදපාදි,
ඥාණං උදපාදි, පඤ්ඤා උදපාදි, විජ්ජා උදපාදි,
අලෝකෝ උදපාදි, තං කෝ පනිදං
දුක්ඛං අරිය සච්චං පරිඤ්ඤාතන්ති"

ධම්මචක්කපවත්තන සූත්‍ර දේශණාවට අනුව දුක්ඛ අරිය සත්‍යාවබෝධය ලබා ගැනීම යනු "පරිඤ්ඤෙයියන්ති පරිඤ්ඤාතන්ති" යනුවෙන් පෙන්වා ඇත. දුක පිළිබඳ අරිය සත්‍යය "පිරිසිඳ දැන පිරිසිඳ දැකගත යුතුය" යන්න මෙහි අර්ථයයි.

ජීවිත පැවැත්ම යනු ප්‍රිය දේට ඇලීමත්, අප්‍රිය දේට ගැටීමත්, ප්‍රිය අප්‍රිය අතර දේට මුළා වීමත්ය. ප්‍රිය, අප්‍රිය යනු සිතක ගති පුරුදු දෙකකි. ගති පුරුදුවල අන්ත දෙකකි. සියලු සංඛාරවලට "පටිච්ච" වීමෙන් ප්‍රිය අප්‍රිය දේට ඇලීම හා ගැටීම නිසා ජීවිත පැවැත්ම දිගටම පවත්වාගෙන යන්නට උපකාර වන්නා වූ විඤ්ඤාණ ආහාර (සමුදය) බිහි වෙයි. ප්‍රිය අප්‍රිය සියලු සංඛාරයන්හි අනිච්ච බව දුක්ඛ බව හා ඒ නිසා මතුවන සමුදය ධර්මයන්හි අනත්ථ බව තේරුම් ගන්නට නොහැකි වීම "අපරිඤ්ඤාතන්ති" යන මාගධී පදයෙන් පෙන්වා දී ඇත.

සබ්බේ සංඛාරා අනිච්චාති, සබ්බේ සංඛාරා දුක්ඛාති, සබ්බේ ධම්මා අනත්ථාති යන්න යථාපරිදි පිරිසිඳ දැනගත් පුද්ගලයා "පරිඤ්ඤාතන්ති" තත්ත්වයට පත් වූ දුක පිරිසිඳ දැකගත් පුද්ගලයෙකි. ඔහු දුක්ඛ අරිය සත්‍යයද අවබෝධ කරගත් කෙනෙකි.

මේ අනුව ජීවිතයක් පවත්වාගෙන යාම යනුවෙන් සිද්ධ වන්නේ තමන්ගේ චිත්තසංථානය තුළම බිහිවන, පවතින, නැතිවී යන හේතුපල පරම්පරාවක් විනා සැබෑවටම පවතින, නියත වශයෙන්ම, නිස්සිත වශයෙන්ම තමන් කැමති වූ ආකාරයෙන් පවත්වාගෙන දිගටම නවත්වා ගැනීමට හැකි දෙයක් නොවන බව පිරිසිඳ දැක ගන්නට ලැබෙයි. මේ ආකාරයෙන් දුක සකස් වන්නේ තම චිත්තසංථානය තුළදීමය. ප්‍රිය බවට ඇලීමත්, අප්‍රිය බවට ගැටීමත් ඒ අතර ඇතිවන දෝලනයත් දුකට හේතුවයි. ප්‍රිය, අප්‍රිය දෙකම උපේක්ඛා සිතින් ඉවසා, විමසා දැක ධර්මතාවය නියම ආකාරයෙන්ම තේරුම් ගත් කෙනෙකු ධර්මතාවයට විරුද්ධව ක්‍රියා කිරීම නතර කිරීමත් සමගම දුක සකස් වීමද නවතී.

මෙසේ තම චිත්තසංථානයට අරමුණු වන්නා වූ සියලු අරමුණු නිස්සිත වශයෙන්ම ගැනීමට හෝ කැමති වූ පරිදිම සංඛාර කරමින් දිගටම පවත්වාගෙන යන්නට හෝ නොහැකි බව, නුසුදුසු බව යථාපරිදි නොදැනීම නොදන්නාකම "දුක්ඛේ අඤ්ඤාණං" ස්වභාවයයි. සබ්බේ සංඛාරා අනිච්චාති බව තේරුම් ගැනීම දුක්ඛේ ඥාණයයි. අනිස්සිත වූ, අනිච්ච වූ යම් දෙයක්, තැනක් කෙනෙක් හෝ ධර්මතාවයක් නිච්ච සේ, නිස්සිත සේ වැරදි ආකාරයට දැක එය උපාදානය කරගන්නට සංඛාර කිරීම දුකට පත්වීමටත් අනාථ

තත්ත්වයට පත් වීමටත් හේතුවයි. පංචස්කන්ධයම උපාදානය කරගැනීමම මගේ, මගේ ආත්මය යන වැරදි දෘෂ්ඨියෙන් ක්‍රියා කරන්නේ "අනිස්සිතෝච විහරති නච කිංචි ලෝකේ උපාදියති" යන්න අවබෝධකර නොගත් නිසාමය.

රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන ස්කන්ධයන් පහම කෙනෙකුට උපාදානය කරගන්නට හැකි දේය. මීට අමතරව කිසිවක්ම ලෝකයේ නැත. පෘථග්ජන ලෝකයා පංචස්කන්ධයේ නියම, නිවැරදි ස්වභාවය, ස්වරූපය, නිවැරදි ආකාරයෙන්, යථා පරිදි නොදන්නා නිසාම පංචස්කන්ධයම සිතින් අල්ලා බදාගෙන, උපාදානය කරගන්නට වැර දරති. ජීවිත කාලය පුරාම උත්සාහ කරති.

චතු අරිය සත්‍යයන් අනුබෝධ ඥාණයෙන් අසා දැන යම් අවබෝධයක් ලැබූ කෙනෙකුට මෙසේ උපාදානය කරගන්නට උත්සාහ කරන පංචඋපාදානස්කන්ධය පිළිබඳවද යථා තත්ත්වය අසා දැන ගන්නට හැකි වෙයි. චතු අරිය සත්‍යයන් පිළිබඳව අරිය උත්තමයෙකුගෙන්ම, කල්‍යාණ මිත්‍රයෙකුගෙන්ම අසා දැන ලබාගත යුතු දැනුම, ඥාණය අනුබෝධ ඥාණයකි. මෙවන් අනුබෝධ ඥාණයක් ලබාගත් පසුව යා යුතු මඟ හා නොයා යුතු මඟ වෙන්කර තේරුම් ගෙන, යායුතු මාර්ගයේ ගමන් කිරීමෙනුත්, නොයා යුතු මාර්ගය අත්හැරීමෙනුත්, ධම්මානුධම්ම පටිපදාවෙහි හැසිරීමෙන් ප්‍රතිවේධ ඥාණයද සම්පූර්ණ කරගත හැකිය.

උදාහරණයකින් පෙන්වා දුන්නොත් ඔබට කොළඹට යා යුතු නම් කොළඹට ගිය කෙනෙකුගෙන්ම කොළඹට යන මාර්ගයේ මං සළකුණු නිවැරදිව අසා දැන ගත යුතුය. ඒ මං සළකුණු සිත්හි දරාගෙන, ඒ සියලු මං සළකුණු පසු කරමින් තමාම තම ගමන් මග පසුකරමින් ගමන් කර, කොළඹ කරා යා යුතුය. කොළඹට යන පාර මීට පෙර කොළඹ නොගිය කෙනෙක්ගෙන් අසා දැන ගැනීමද ප්‍රමාණවත් නොවේ. කොළඹට යන පාර අසා දැන ගත්තත් ගමන නොගියේ නම් කොළඹ දැකගත නොහැකිය. එසේම නිබ්බානගාමී මාර්ගය අරිය උත්තමයෙකුගෙන්ම අසා දැන, නිවැරදි අනුබෝධ ඥාණයක් හා පරතෝඝෝෂක ප්‍රත්‍යද ලබාගත යුතුය. ඉන් අනතුරුව නිවැරදි මඟ දැක, සම්මා දිට්ඨියට පත් වී, යෝනිසෝමනසිකාරයෙන් මඟ අනුගමනය කර, ධම්මානුධම්ම පටිපදාවෙහි යෙදී, අනුබෝධ ඥාණය, ප්‍රතිවේධ ඥාණයක් ලෙසින් අත්විඳ ගත යුතුමය. නිබ්බාන යනු බැමි ලෙහා දමා නිදහස අත්විඳ, අත්දැක ගතයුතු දෙයක් මිස අසා දැනගත් පමණින් ලබාගත හැකි එකක් නොවේ.

කල්‍යාණ මිත්‍රයෙකු විසින් අරිය ධර්මය පැහැදිළි කර පෙන්වා දී, අනුශාසනා ප්‍රාතිහාර්යය මගින් අනුගමනය කළයුතු ධම්මානුධම්ම ප්‍රතිපදාව පෙන්වා දෙන විට, සෝතාවදානේ පඤ්ඤා සුතමයේ ඥාණයත්, සෝතාවදානේ පඤ්ඤා චින්තාමයේ ඥාණයත්, සෝතාවදානේ පඤ්ඤා භාවනාමයේ ඥාණයත් ලබාගත හැකිය. මෙය අනුමාන ඥාණයකි. ඒ නිසා එයට අනුබෝධ ඥාණය යැයිද නම්කර ඇත. එසේ තවත් බාහිර කෙනෙකුගෙන් අසා දැනගත් දේ තමන්ගේම මනසින්, යෝනිසෝමනසිකාරයෙන් අවබෝධ කරගත් පරිද්දෙන් ප්‍රායෝගිකවම ඒ ධර්ම මාර්ගය අනුගමනය කිරීමෙන් ප්‍රතිවේධ වශයෙන් ප්‍රත්‍යක්ෂ කරගැනීම ප්‍රතිවේධ ඥාණයයි.

"පච්චත්තං වේදිතබ්බෝ විඤ්ඤූහිති" යන ධර්ම ගුණයේ පෙන්වා වදාළේද තමා තුළින්ම තමාම කෙළෙස් ප්‍රහාණය කළ බව විනිවිද දැකගත යුතු බව පෙන්වා දීමයි. මෙයද ප්‍රතිවේධ ඥාණයමයි.

1. අනුබෝධ ඥාණයෙන් ලබාගත් පූර්වභාග නුවණ නොලබා, සම්මා දිට්ඨියට පත්නොවී ප්‍රතිවේධ ඥාණය ලබන්නේද නැත.

2. අනුබෝධ ඥාණයෙන් අසා දැනගත් නිවැරදි මාර්ගය සම්පූර්ණයෙන්ම අනුගමනය නොකර චතු අරිය සත්‍යයන් ප්‍රත්‍යක්ෂ කරගත නොහැකිය.

3. අනුබෝධ ඥාණයෙන් තොරව සම්මා දිට්ඨියද, සම්මා දිට්ඨිය නැතිව සම්මා සමාධියද, සම්මා ඥාණයන්ද, සම්මා විමුක්තියද ලබන්නටත් නොහැකිය.

4. අනුබෝධ ඥාණයේ පටන් ප්‍රතිවේධ ඥාණය සම්පූර්ණ කරගැනීම දක්වාම අනුගමනය කළයුතු ගමන් මග නිබ්බේදික පරියාය, ධම්ම පරියාය, වේදිතබ්බෝ පරියාය යනුවෙන්ද බුද්ධ ධර්ම විග්‍රහයේ පෙන්වා දී ඇත.

5. දුක්ඛ අරිය සත්‍යය, දුක්ඛ සමුදය අරිය සත්‍යය, දුක්ඛ නිරෝධ අරිය සත්‍යය හා දුක්ඛ නිරෝධගාමී මාර්ග ප්‍රතිපදා අරිය සත්‍යය අනුමාන ඥාණයෙන් අසා දැන ගත යුතුය. ඊළඟට දුක්ඛ අරිය සත්‍යය "පරිඤ්ඤෙය්‍යයන්ති පරිඤ්ඤාතන්ති" ලෙසින්ද, දුක්ඛ සමුදය අරිය සත්‍යය "පහාතබ්බන්ති පහීයන්ති" ලෙසින්ද දුක්ඛ නිරෝධ අරිය සත්‍යය "සච්ඡිකාතබ්බන්ති සච්ඡිකතන්ති" ලෙසින්ද, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා අරිය සත්‍යය, "භාවේතබ්බන්ති භාවිතන්ති" ලෙසින්ද දහම් ඇස පහදාගත යුතුය. (චක්ඛුං උදපාදි) ඥාණය උපදවා පහදා ගත යුතුය. (ඥාණං උදපාදි) ප්‍රඥා ඇස උපදවා පදාගත යුතුයි. (පඤ්ඤා උදපාදි) විනිවිද බැලීමේ ශක්තිය උපදවා, පහදා ගත යුතුය. (විජ්ජා උදපාදි) අලෝකෝ උදපාදි නම් ලෝක තත්ත්වය අතහැරීමට, මෝහය සහමුළින්ම බැහැර කළ යුතුය.

6. ජීවිතයක් පවත්වාගෙන යාමේ අනිස්සිත බව, දුක්ඛිත බව, අනාථ බව හා අසුබය යථාපරිදි තේරුම් ගෙන "නිච්ච, සුඛ, අත්ථ, සුබ සංඥා'' ප්‍රහාණය කළයුතු බව ප්‍රත්‍යක්ෂ කර දැනගැනීම ප්‍රතිවේධ ඥාණයයි.

අනුබෝධ ඥාණය මඟින් අසා දැනගත් නිබ්බාන මාර්ගය නිවැරදිව අනුගමනය කිරීමෙන් චතු අරිය සත්‍යයන් අවබෝධ කරගැනීම යනු ප්‍රතිවේධ ඥාණය සම්පූර්ණ කර ගැනීමයි.

අනුමාන ඥාණය ලබාගැනීම, චතු අරිය සත්‍යයන් අවබෝධ කරගැනීම, සම්මා දිට්ඨියට පත්වීම, ප්‍රතිවේධ ඥාණ සාක්ෂාත් කරගැනීම ආදී සියලුම පියවරයන්හීදී ප්‍රායෝගිකවම කරගත යුත්තේ "රාග ද්වේෂ මෝහ" නමැති කෙළෙස් ගති ප්‍රහාණය කිරීමයි. චිත්තසංථානයේ මුල් බැසගෙන ක්‍රියාත්මකව පවතින කෙළෙස් සහමුළින්ම උගුල්ලා දැමීම කරන්නට නොහැකි නම් ඒ මාර්ගය නිබ්බාන මාර්ගය නොවේ.

චේතෝ විමුක්තිය හා ප්‍රඥා විමුක්තිය යන පාරිශුද්ධ තත්ත්වයන් දෙකම ලබාගත හැක්කේ කෙළෙස් ප්‍රහාණය කිරීමෙන්ම පමණි.

අනුබෝධ ඥාණය ලෞකික ඥාණයකි. එය ලෝකය තුළින්ම, ලෞකිකත්වය තුළින්ම දැනගත යුතුය. නමුත් ප්‍රතිවේධ ඥාණය ලෝකෝත්තර ඥාණයකි. ලෞකිකත්වයෙන් මිදී නිදහස් වී, ලෝක තත්ත්වයෙන් එතෙර වන්නට "නාපරං" තත්ත්වයට පත්වන්නට උපකාර වන ඥාණය ලෝකෝත්තර ඥාණයකි. අනුබෝධ ඥාණය තුළින් දුක, දුක්ඛ සමුදය, ලෝක, ලෝක සමුදය තේරුම් ගත යුතුය. ප්‍රතිවේධ ඥාණය යන්න සමුදය නිරෝධ කිරීමෙන්ම නිරෝධගාමී මාර්ගය අනුගමනය කිරීමෙන්ම අත්විඳ ගතයුතු තත්ත්වයකි. ලෝකෝත්තර යනු ලෝකයෙන් එතෙර වීමයි.

* * * * * * * * * * *

# බුද්ධ දේශණාවේ ආධ්‍යාත්මය හා ප්‍රායෝගික ක්‍රමවේදය
# ධම්මානුධම්ම පටිපදාව I

"අභිඤ්ඤාතං අභිඤ්ඤෙයිය
පරිඤ්ඤාතං පරිඤ්ඤෙයිය
භාවේ තබ්බංච භාවිතං පහාතබ්බංච පහීනං
සච්ඡිකාතබ්බංච සච්ඡිකිරියා"

බුදුපියාණන්වහන්සේ ඉහත ගාථාවෙන් දේශණා කර වදාළේ අනුපුබ්බංගම නිවන් මාර්ගයයි. මෙහි "අභිඤ්ඤෙයියං අභිඤ්ඤාතං" යනු දැනගත යුතු දෙයයි. " භාවේ තබ්බංච භාවිතං, පහාතබ්බංච පහීනං" යනුවෙන් පෙන්වා වදාළ ඉදිරි පියවර දෙක පිළිබඳව බුදුපියාණන්වහන්සේ ඉතාමත් පැහැදිළිව පහත ගාථාවෙන් ඉදිරිපත් කර වදාළහ.

"පරිඤ්ඤට්ඨේ පඤ්ඤා දුක්ඛේ ඥාණං
පහානට්ඨේ පඤ්ඤා සමුදයේ ඥාණං
සච්ඡිකිරියට්ඨේ පඤ්ඤා නිරෝධේ ඥාණං
භාවනට්ඨේ පඤ්ඤා මග්ගේ ඥාණං"

මෙහි විස්තර කරන ලද දුක්ඛ, දුක්ඛ සමුදය, දුක්ඛ නිරෝධය, දුක්ඛ නිරෝධ ගාමිණී මාර්ගය යන මේ හතර පියවරයන් පිළිබඳව අවබෝධයක් ලබාගත යුතුයි. මේ හතර පියවරයන් අතරින් හතරවන පියවර අවසාන පියවර එනම් මාර්ගය සම්පූර්ණ කර ගැනීම සඳහා අනුගමනය කළ යුතුව ඇති කොටස් පිළිබඳව බුදුපියාණන්වහන්සේ දේශණා කර වදාළහ. පළමු වන කොටස සමථ භාවනාව ලෙසත් දෙවන කොටස විපස්සනා භාවනාව ලෙසත් විග්‍රහ කර පෙන්වා දී ඇත. සමථ භාවනාව හා විපස්සනා භාවනාව යනු විශාල

වෙනස්කම් සහිත දෙයාකාරයක ක්‍රම දෙකකි. සමථ භාවනාවෙන් සිදු වන්නේ පෘථග්ජන පුද්ගලයෙකුගේ හිතක් සමථයකට පත් කිරීමයි. හිතේ පවතින වික්ෂෝපභාවය, එහෙම නැත්නම් උද්ධච්චභාවය, විචිකිච්චා තත්ත්වය ඉවත් කර හිත සමථ තත්ත්වයට ගෙන ඒම සමථයෙන් සිදු වේ.

සමථ භාවනාවේ කොටස් දෙකක්ම භාවිතයේ ඇති බව හොඳින් ම තේරුම් ගත යුතුයි. අරිය භාවනාවක් ලෙස හෝ එසේ නැත්නම් අනරිය භාවනාවක් ලෙස සමථ භාවනාව භාවනා කළ හැකියි. අද බොහෝ තැන්වල සමථ භාවනාව වඩන්නේ අනරිය භාවනාවක් ලෙසයි. නමුත් විපස්සනා භාවනාවේ නම් මේ ආකාරයට කොටස් දෙකක් නොමැත. විපස්සනා භාවනාව බුද්ධ දේශණාවේ පමණක් ම ඇති වෙන කිසිම ආගමක, දර්ශනයක හෝ ක්‍රමවේදයක නොමැති භාවනා ක්‍රමයකි. බුදුපියාණන්වහන්සේ දේශණා කළ උතුම් බුද්ධ ධර්මයේ ම පමණක් මෙම විපස්සනා භාවනාව විග්‍රහ කර පෙන්වා ඇත. නමුත් සමථ භාවනාව බුද්ධෝත්පාද කාලයකත්, අබුද්ධෝත්පාද කාලයකත් භාවිතා වේ. බුද්ධාගම පවතින, බුද්ධාගම නොපවතින තැන්වලත් භාවිතා වේ.

බුදුපියාණන් වහන්සේ උපත ලබද්දී ලෝකයේ එකම බෞද්ධයෙකු හෝ නොසිටියහ. නමුත් ඒ කාලයේ දී සමථ භාවනාව භාවිතයේ තිබුණි. විපස්සනා භාවනාවක් කිසිම විටකත් භාවිතා වී නොතිබිණි. සිද්ධාර්ථ බෝසත්තුමා බුද්ධත්වයට පත් වූ පසුව මේ විපස්සනා භාවනාවක් පිළිබඳව ලෝකයාට දේශණා කර වදාළහ. එසේ නම් සමථ භාවනාව බුදුපියාණන්වහන්සේ පහළ වීමටත් පෙර සිටම තිබූ බව අප වටහා ගත යුතුයි. බෝසත්තුමා බෝධිසත්ව කාලයේ දී අවුරුදු හයක්ම දුෂ්කර ක්‍රියා කළේ මේ අනරිය සමථ භාවනාවක්ම භාවිතා කිරීමෙනි. සමථ භාවනාවක් වැඩීමෙන් පමණක්ම ධ්‍යාන ලබාගත හැකියි. විපස්සනා භාවනාවෙන් ධ්‍යාන ලැබිය නොහැකියි. විපස්සනා භාවනාවෙන් ලබා ගත හැක්කේ මඟඵලයි, සමාපත්තිනුයි. සමථ භාවනාව අරිය වූවත් අනරිය වූවත් එයින් ධ්‍යානයන් ලබා ගැනීම කළ හැකි බව දැන ගත යුතුයි. නමුත් එයින් සමාපත්ති ලබා ගැනීම කළ නොහැකිය. විපස්සනා භාවනාවකින් පමණක්ම මඟඵල හා සමාපත්ති යන උසස් අංග ලබා ගත හැකිය. එමනිසා සමථ හා විපස්සනා භාවනා ක්‍රම දෙක පිළිබඳව පැහැදිළිවම වෙන් කර තේරුම් ගත යුතුයි.

බුදුපියාණන්වහන්සේ පහළ වීමට පෙරත් ජන්බුද්වීපයේ ඍෂිවරුන් නොයෙකුත් අභිඥාලාභීන් සමථ භාවනා වඩා ඒ ඒ ධ්‍යානයන්ට පත් වී අභිඥා ලබා අෂ්ට සමාපත්තියට පත් වී නොයෙකුත් ඍද්ධි ප්‍රාතිහාර්ය පෑ අය ඒ කාලයේත් සිටියහ. ඒ නිසා එදා පැවති සමථ භාවනාවත් බුද්ධ ධර්මයට අනුගත කිරීමට ක්‍රමවේදයක් බුදුපියාණන්වහන්සේ ඉදිරිපත් කර වදාළහ. අරිය සමථ භාවනාව එම ක්‍රමවේදය තුළ අන්තර්ගත වේ.

බුදුපියාණන්වහන්සේගේ ධර්මය අසා, ශ්‍රවණය කර තේරුම් ගත් ඕනෑම කෙනෙකුගේ අවසාන ඉලක්කය ප්‍රඥා විමුක්තිය ලබා ගැනීමයි. මෙයම විද්‍යා විමුක්තිය යනුවෙන්ද සඳහන් වේ. බුදුපියාණන්වහන්සේ බලාපොරොත්තු වූයේ ප්‍රඥා විමුක්තියට පත් වීමයි. නිවන යනු ප්‍රඥා විමුක්තියයි. සමථ භාවනාවකින් ප්‍රඥා විමුක්තියක් ලබා ගත නොහැකියි. එයින් ලබා ගත හැකි වන්නේ චේතෝ විමුක්තිය පමණි. අනරිය භාවනාවක්

මඟින්ද චේතෝ විමුක්තිය ලබා ගත හැකියි. මේ අනුව සමථ භාවනාව අරිය හෝ අනරිය හෝ වුවද මේ ක්‍රම දෙකෙන්ම චේතෝ විමුක්තිය ලබා ගත හැකිය. නමුත් ප්‍රඥා විමුක්තිය නම් ලබා ගත නොහැකියි.

විශේෂයෙන්ම පටිසම්භිදා මග්ගයේ බුදුපියාණන්වහන්සේ දේශණා කර වදාළ පරිදි යම්කිසි පුද්ගලයෙකු නිවන් අවබෝධ කර ගැනීමට යම්කිසි ධම්මානුධම්ම පටිපදාවක් පුරයි නම් ඒ සඳහා ක්‍රම හතරක් භාවිතා කළ හැකි වේ. ඒ ක්‍රම හතරෙන් ඕනෑ ම එකකින් හෝ එහෙම නැත්නම් ඒ ක්‍රමවලින් කිහිපයක් භාවිතා කර හෝ ප්‍රඥා විමුක්තියත් චේතෝ විමුක්තියත් දෙකම ලබා ගැනීම කළ හැකි බව දේශණා කර වදාරා ඇත. එම ක්‍රම හතර නම්,

1. සමථ පුබ්බංගම විපස්සනා භාවනා ක්‍රමය
2. විපස්සනා පුබ්බංගම සමථ භාවනා ක්‍රමය
3. යුගනද්ධ භාවනා ක්‍රමය
4. ධම්ම උද්ධච්ච විග්ගහිත මානසං ක්‍රමය

සමථ පුබ්බංගම විපස්සනා භාවනා ක්‍රමයේදී පළමුව සමථ භාවනාව වඩා ඊට පසු විපස්සනා භාවනාවට මාරු වීමක් කළ යුතුයි. දෙවන ක්‍රමයේදී මුලින් සමථ භාවනාවක් වැඩීමක් නොකර විපස්සනා භාවනාවෙන්ම ආරම්භ කළ හැකියි. විපස්සනා භාවනාව මඟින් සමාධියට එහෙම නැත්නම් සමථයට පත් වීම එහිදී සිදු වේ. යුගනද්ධ භාවනාවේ දී සමථ පුබ්බංගම හෝ විපස්සනා පුබ්බංගම හෝ යනුවෙන් වෙන් නොකෙරේ. මෙහිදී සමථ, විපස්සනා භාවනා දෙකම සම්ප්‍රයුක්තව එකටම භාවනා කළ හැකිය. මේ හතර වන ක්‍රමය වූ විපස්සනා භාවනාව ධම්ම උද්ධච්ච විග්ගහිත මානසං යනුවෙන් හඳුන්වනු ලබන භාවනා ක්‍රමයකි. එය ප්‍රඥා විමුක්තිය ලබා ගැනීම සඳහා භාවනා කළ හැකි බොහොම කෙටි ක්‍රමයකි. මෙය ගෝචර වන්නේ ප්‍රඥාවන්තයන්ට ම පමණි. බාහියදාරුචීරියතුමා, පුක්කුසාති රජ්ජුරුවෝ, සංතති අමාත්‍යවරයා, දබ්බමල්ලතිස්ස අරහතුන්වහන්සේ, කුමාර කාශ්‍යප හාමුදුරුවෝ වැනි බුද්ධ සාහිත්‍යයේ සඳහන් වන දාහතර දෙනෙකු, නැතිනම් පහළොස් දෙනෙකු ධම්ම උද්ධච්ච විග්ගහිත මානසං යන ක්‍රමයට නිවන් අවබෝධ කර ගෙන ඇත. එනම් ප්‍රඥා විමුක්තියට පත් වූහ. උන්වහන්සේලා කිසි විටකත් ධ්‍යාන නොවැඩූහ. සමථය නොවැඩූහ. විනාඩි ගණනක් තුළදී උද්ධච්ච විග්ගහික මානසං තත්ත්වය උදාකර ගත්හ. උද්ධච්චය, විග්ගහිත තත්ත්වයට පත් කළහ. එහෙම නැත්නම් උද්ධච්චය උදුරා දැමූහ. රාග, ද්වේෂ මුල් බොහොම පහසුවෙන් උපුටා දමන ක්‍රමයක් ලෙස මේ උද්ධච්ච විග්ගහිත මානසං ක්‍රමවේදය හැඳින්විය හැකිය.

මේ මුල් ක්‍රම තුනේදීම සමථ, විපස්සනා දෙකම භාවිතා කළයුතු බව හොඳින් තේරුම් ගත යුතුයි. මේ ක්‍රම දෙක මිශ්‍ර කර භාවිත කිරීමද කළ හැකිය. එහෙම නැත්නම් මුලින් සමථය වඩා ඊට පසු විපස්සනාව වැඩීම කළ හැකිය. එසේත් නැත්නම් පළමුව විපස්සනාව වැඩීම කළ හැකිය. එම නිසා හැම කෙනෙකු ම පිරිසිදුවම, පැහැදිළිවම මේ සමථ හා විපස්සනා භාවනා යනුවෙන් අර්ථ ගන්වන්නේ කුමක්ද යන්න තේරුම් ගත යුතු වේ. එසේ තේරුම් ගත් තරමට පමණක්ම භාවනාවක් වඩා, අනුගමනය කර, අත්දැක, ප්‍රතිඵල ලබා ගැනීම කළ හැකි වේ.

ධ්‍යාන ලැබීමට අවශ්‍ය නම් ආරම්භයේ සිටම සමථය වඩා අවසානයේදී ඒ ධ්‍යාන ලබා ගැනීම කළ හැකිය. ඊට පසු විපස්සනා භාවනාවට මාරු වීමටද හැකියාව ඇත. සිත සමථ තත්ත්වයට පත් වූ පසු එනම් උද්ධච්ච යන තත්ත්වයෙන් සිත සමථ තත්ත්වයට පත් වූ පසු විපස්සනාවට මාරු වීමටත් හැකියි. බුදුපියාණන්වහන්සේ දේශණා කළ සමථ, විපස්සනා භාවනාවන්හි ඉබේ මාරු වීමක් නොමැත. සමථ භාවනාව තුළින් ඉබේම විපස්සනාවට මාරු වීමක් සිදු නොවේ. බුදුපියාණන් වහන්සේ දේශණා කළ අරිය භාවනාව තුළ සමථයෙනුත්, විපස්සනාවෙනුත් පියවරෙන් පියවරට තමන්ගේ මනස පිරිසිදු වීම සිදු වේ. සත්‍යාවබෝධය දියුණු වේ. ඒ නිසා තමන්ගේ සිත සමථයකට පත් වූ බව තමන්ම තේරුම් ගත් විගස විපස්සනාවට මාරු වීමට ඕනෑ ම කෙනෙකුට හැකියාව ඇත. ඉබේ මාරු වන ක්‍රමයක් බුදුපියාණන්වහන්සේ දේශණා කර වදාරා නොමැත. යථාවබෝධයෙන්ම විපස්සනාවට මාරු වීම කළ යුතු වේ.

අනරිය භාවනාවකදී නම් සමථයෙන් පසුව විපස්සනාවට මාරු විය නොහැකියි. ඊට හේතුව හිතේ පිරිසිදු වීමක් ඇති නොවන නිසයි. අනරිය භාවනාවකදී සමථය යන තත්ත්වයෙන් මත් වී සිත අසංඥ තත්ත්වයට පත් වීම සිදු වනවා මිස විපස්සනාවකට පත් නොවේ. එනම් අනරිය වූ භාවනාවක් වඩා කිසිම අයුරකින් විපස්සනාවකට මාරු වීමේ ක්‍රමයක් නොමැත.

අරිය හා අනරිය යනුවෙන් කොටස් දෙකක් විස්තර වන්නේ සමථ භාවනාවේදීයි. විපස්සනා භාවනාව අරිය භාවනාවක් ම පමණි. ඒ කාරණය හොඳින් ම තේරුම් ගත යුතුයි. පංච නීවරණවලින් වෙන් වූ සිතක් ඇතිව සමථයකට පත් වුවොත් ධ්‍යාන ලැබුවොත් එය අරිය තත්ත්වය ආශ්‍රය කරන අවස්ථාවකි. එසේ නොමැතිව කාමච්ඡන්ද, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්ච, කුක්කුච්ච, විචිකිච්චා යන මේ පංචකාම නීවරණ ධර්මවලින් වෙන් නොවී ඕනෑම කෙනෙකුට සමථ භාවනාවක් කිරීමේ හැකියාව පවතී. එවිට එය අරිය භාවනාවක් නොවේ.

අරිය සමථ භාවනාවක දී නම් පළමු පියවර වශයෙන් කාමච්ඡන්දයෙන් වෙන් වීම සඳහා කාමච්ඡන්දය දුරැලීම සඳහා එය යටපත් කිරීම සඳහා නෙක්ඛම්ම භාවනාවක් භාවිතා කළ යුතුයි. නෙක්ඛම්ම තත්ත්වයට හිත පත් කරගත යුතුයි. සෑම පෘථග්ජන පුද්ගලයෙකුගේම හිතේ කාමච්ඡන්දය පවතී. ඒ තත්ත්වය දුරැලීම සඳහා හිත නෙක්ඛම්ම තත්ත්වයට පත් කර ගැනීම සිදුකළ යුතුයි. ඒ සඳහා කර්මස්ථානයක් ගෙන භාවනාවක් ලෙස භාවිතා කළ යුතුයි.

ඊළඟට දෙවන පියවර ව්‍යාපාදය දුරැලීම සඳහා අව්‍යාපාදයට හිත පත්කර ගැනීම සඳහා භාවනා කර්මස්ථානයක් භාවිතා කිරීමයි. ව්‍යාපාදය යනු ද්වේෂයයි. ඊළඟ පියවර ථීනමිද්ධයෙන් වෙන් වීමයි. ථීනමිද්ධ යනු යම්කිසි මත් වීමකි. ඒ ථීනමිද්ධයෙන් වෙන් වී සිතේ අලෝක සංඥා මතුවන තත්ත්වයට හිත පත් වන භාවනාවක් වැඩිය යුතුයි. ඊළඟට උද්ධච්ච කුක්කුච්චයෙන් සිත නිදහස් කර අයින් වී යෑමත් සමඟ හිතේ පවතින වික්ෂේප ගතිය ඉවත් වී අවික්ඛේප තත්ත්වයට සිත පත් වී, සමථ තත්ත්වයටත් පත් වේ. මේ පිළිබඳව තවත් විග්‍රහ කරනවානම් කාමච්ඡන්දයෙන් වෙන් වී නෙක්ඛම්ම තත්ත්වයට, ව්‍යාපාදයෙන්

වෙන් වී අව්‍යාපාද තත්ත්වයට, ථීනමිද්ධයෙන් ඉවත් වී අලෝක සංඥාවක් මතුවන තත්ත්වයට, උද්ධච්චයෙන් වෙන් වී අවික්ඛේප තත්ත්වයට, විචිකිච්චාවෙන් වෙන් වී ධම්ම වවත්තේන තත්ත්වයට, අරතියෙන් වෙන් වී පාමොජ්ජ යන තත්ත්වයට පත්වීම සිදුවිය යුතුයි. සමථ භාවනාවේ මුල් කොටස එනම් පංචකාම නීවරණ ධර්ම යටපත් කර සිත සමථ තත්ත්වයට පත් කර ගැනීම පළමුව කර ගත යුතුයි.

මේ අනුව කාමච්ඡන්දයෙන් වෙන් වීම සඳහා නෙක්ඛම්ම භාවනාවක් වැඩිය යුතුයි. පළමුව සිතක කාමච්ඡන්දය ඇතිවන අයුරු විග්‍රහ කර ගත යුතුයි. සිතක විවිධ කාම අරමුණු, නිමිති පහළ වේ. සිතට රූප ආරම්මණයක්, ශබ්ද ආරම්මණයක්, ගන්ධ ආරම්මණයක්, රස ආරම්මණයක්, කාය පහස පිළිබඳ ආරම්මණයක්, මනෝ ආරම්මණයක් අරමුණු විය හැකිය. සිතකට අරමුණු ආකාර හයකට අරමුණු වේ. මේ ඉන්ද්‍රියය හයට රූපයක් අරමුණු වුණු විගසම අදාළ අරමුණු ප්‍රිය ආකාරයේ හෝ අප්‍රිය ආකාරයේ හෝ එහෙමත් නැත්නම් මධ්‍යස්ථ යන තත්ත්වයේ අරමුණක් හෝ විය හැකිය. ප්‍රිය රූපයක් අරමුණු වුවහොත් හිත කාමච්ඡන්දයට භා වේ. අප්‍රිය රූපයක් අරමුණු වූ විට ව්‍යාපාදයට පත් වේ.

කාමච්ඡන්දය යනු ඉන්ද්‍රියයන් පිනවන ආකාරයේ ප්‍රිය අරමුණකට සිතේ බැඳීම, ඇලීම, එකතු වීම, තණ්හා වීම, ආශා වීම, සම්බන්ධ වීම, උපාදානය වීම යන ලක්ෂණයන් ඇති වීමයි. හිතේ කාමච්ඡන්දයක් ඇති වන්නට මුල් වන්නේ මේ රූපාරම්මණ, ශබ්දාරම්මණ, ගන්ධාරම්මණ ආදී අරමුණු හයක් පමණක්මයි. මේ හය ආකාරයෙන් තොරව මීට වෙනස් කිසිම ආකාරයකට හිතේ නිමිත්තක් පහළ විය නොහැකියි. මේ ඉන්ද්‍රියය හයෙන්ම ඉහත විස්තර කළ ආකාරයට කාමච්ඡන්දයට මුල් වන්නා වූ අරමුණු හයක් ඇති කරගනී. තවද රූපයක් පිළිබඳව ව්‍යාපාදයට හේතු වන්නා වූ ගැටීමක්, ද්වේෂයක්, තරහක්, ඊර්ෂියාවක්, ක්‍රෝධයක් ඇති වන්නේ මේ අරමුණුම අප්‍රිය වන විටයි. මේ ව්‍යාපාදයට හේතුව කලින් දුටු රූපයට දැන් අප්‍රිය වීමයි. කලින් ප්‍රිය රූපයක් තිබුණේ නැතිනම් එය දැන් අප්‍රිය වුණේ නැතිනම් ව්‍යාපාදයක් ඇති විය නොහැකියි. ද්වේෂය යනු සිතේ මතු වන දෙවන වේෂයකි. කාමච්ඡන්දය හා ව්‍යාපාදය යන දෙකෙන්ම වෙන් වීමට නම් ඒ සඳහා භාවනා ක්‍රමයක් කර්මස්ථානයක් අනුගමනය කළ යුතුයි. තමන්ගේ හිතට වික්ෂෝපභාවයක්, උද්ධච්චභාවයක්, විචිකිච්චාවක් ඇති වීමට හේතු වන්නේ කාමච්ඡන්දයයි. එහෙම නැත්නම් ව්‍යාපාදයයි. මේ කාමච්ඡන්දය හා ව්‍යාපාදය නිසා නිතර ම කෙනෙකුගේ සිත කිළිටි වේ. සිත සමථ තත්ත්වයෙන් ඉවත් වී අසහනයට, වික්ෂෝප බවට පත් වේ.

කාමච්ඡන්දයෙන් හා ව්‍යාපාදයෙන් සිත කිළිටි වීම නිසා මනස අඳුරු වී, මුවහ වී මෝහය යන තුන්වන කිළිටි ගතියකුත් මතු වීම සිදු වේ. උද්ධච්ච, විචිකිච්චා, අවිජ්ජා යන ගති තුනට ම හේතු වන්නේ මේ තුන්වන කිළිටි ගතියයි. සිත අසහනයට පත් වන්නේ මේ ගති නිසයි.

කාමච්ඡන්දයෙන් හා ව්‍යාපාදයෙන් සිත මත් වූ විට ඇති වන්නේ ථීනමිද්ධ තත්ත්වයයි. සිත මත් වී ථීනමිද්ධ තත්ත්වයට පත් වූ විට අප නොදැනීම මෝහයෙන් මුළා වී, උද්ධච්ච කුක්කුච්ච, විචිකිච්චා, අවිජ්ජා යන ගති ලක්ෂණ වලටත් සිත පත් වේ.

මේ අරිය සමථ භාවනාව වඩන විට කාමච්ඡන්දයෙන් දුරුවන්නට අවශ්‍ය කරන කමටහන් භාවිතා කිරීමට සිදු වේ. කාමච්ඡන්දයක් මතු වන්නේ තමන්ගේ ඉන්ද්‍රියයන් හය අතරින් කුමන හෝ ඉන්ද්‍රියයකින් ප්‍රිය නිමිත්තක් සිතට ඇතුලු වීමෙනුයි. නැතිනම් ස්පර්ශ වීමෙනුයි. ව්‍යාපාදය ඇති වන්නේත් ඒ ආකාරයටම වේ. සිතට ස්පර්ශ වන්නේ ප්‍රිය අරමුණක් නම් එතැන ඇති වන්නේ කාමච්ඡන්දයයි. අප්‍රිය අරමුණක් නම් ව්‍යාපාදයයි. ප්‍රිය රූප, ප්‍රිය ශබ්ද, ප්‍රිය ගන්ධ, ප්‍රිය රස, ප්‍රිය පහස, ප්‍රිය මතක සටහන් නිසා කාමච්ඡන්දයත්, අප්‍රිය රූප, අප්‍රිය ශබ්ද, අප්‍රිය ගන්ධ, අප්‍රිය රස, අප්‍රිය පහස, අප්‍රිය මතක සටහන් නිසා ව්‍යාපාදයත් සිතක ඇති වේ. මේ ප්‍රිය පැත්ත එක අන්තයකි. අප්‍රිය පැත්ත තවත් අන්තයකි. මේ අන්ත දෙකෙන් එකක් හෝ සිතේ ඇතිවිට සිතේ සමථයන් ඇති කර ගැනීම කළ නොහැකියි. මේ අන්ත දෙකට මුළා වී සිටින තාක් විපස්සනා කිරීමට හෝ සමථයට පත් වීම කළ නොහැකියි. එමනිසා මේ අන්ත දෙකෙන් ඉවත් වීමට නම් ථීනමිද්ධ තත්ත්වයට පසුව ඇති සිතේ උද්ධච්ච තත්ත්වය අඩුකර ගැනීම අවශ්‍යය වේ. එවිට අවික්ඛේප තත්ත්වයෙන් සිත සමථයකට පත් වී විපස්සනා භාවනාවට පදනම සකස් වේ. මේ සඳහා පියවර හතක්ම අනුගමනය කළ යුතුයි.

1. කාමච්ඡන්දයෙන් නෙක්ඛම්ම තත්ත්වයට පත් වීම
2. ව්‍යාපාදයෙන් වෙන් වී අව්‍යාපාද තත්ත්වයට පත්වීම
3. ථීනමිද්ධයෙන් ඉවත් වී අලෝක සංඥාවට පත්වීම.
4. උද්ධච්චයෙන් ඉවත් වී සමථ තත්ත්වයට, නැත්නම් අවික්ඛේප තත්ත්වයට පත්වීම
5. විචිකිච්චාවෙන් ඉවත් වී ධම්ම වවත්තේන තත්ත්වයට පත්වීම
6. ඊට පසු අවිද්‍යාවෙන් ඉවත් වී, සිතේ ඥාණ මතු වීම
7. අරතියෙන් වෙන් වී, පාමොජ්ජ තත්ත්වයට සිත පත්වීම

පාමොජ්ජ යනු ප්‍රමෝදය යන අදහසයි. මේ පියවර හතේදීම එකක් ඉවත් කරමින් එසේ ඉවත් කරන එක වෙනුවට වෙනත් එකක් ඇතුළට ගැනීමේ ක්‍රියාවක් සිදු වේ. මෙතැන විස්තර වන්නේ බුදුපියාණන්වහන්සේගේ දේශණාවේ සඳහන් අනාපානසතිය බව හොඳින්ම තේරුම් ගත යුතුයි. එකක් ආශ්‍රය කරන විට තව එකක් ප්‍රහාණය කිරීම කළ යුතුයි. නෙක්ඛම්ම ආශ්‍රය කිරීමත් සමගම කාමච්ඡන්දය බැහැර කිරීම අවශ්‍ය වේ. කාමච්ඡන්දය බැහැර කිරීමත් සමඟ නෙක්ඛම්ම ආශ්‍රය කිරීම එහෙම නැත්නම් නෙක්ඛම්ම තත්ත්වයට දියුණු වීම මඟින් පමණක් සිත සමථයකට පත් වීම සිදු වේ. ව්‍යාපාදයෙන් ඉවත් වීමත් සමඟ "සිතේ අව්‍යාපාද තත්ත්වයත්" ථීනමිද්ධයෙන් දුරු වීමත් සමඟ ''අලෝක සංඥා තත්ත්වයත්'' උද්ධච්චයෙන් ඉවත් වීමත් සමඟ ''ධම්ම වවත්තේන තත්ත්වයත්'' ඇති වීම සිදුවිය යුතුයි. මේ පියවර හතේම විග්‍රහ වන්නේ අනාපානසතිය භාවනා කිරීමයි.

ඉහත විස්තර කරන ලද පියවර හත වැඩීම සඳහා වඩාත් සුදුසු බොහොම කෙටි කර්මස්ථාන කිහිපයක් පහත සඳහන් කර ඇත. රූපයක්, ශබ්දයක්, ගඳ සුවඳක්, රසයක්, සුව පහසුවක්, මතක සටහනක් පිළිබඳව හිතේ කාමච්ඡන්දයක් ඇති වුව හොත් කය රමණය වීම සිදුවේ. එහෙම නැත්නම් කය ගිනි ගනී. කය ගිනිගන්නා සියලුම දෙයින්

කාමච්ඡන්දයත් මතු වේ. කය රමණය වේ. කය රතියට පත් වේ. එමනිසා මේ කාමච්ඡන්දයෙන් ගිනි ගන්නා රාග අරමුණක් යම්කිසි කෙනෙකුට ඇති වූ වහාම කළ යුත්තේ (ඒ අරමුණ ගැන)

"අත්හැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි
අත්හැරීම වෙත්වා
නොඇලීම වෙත්වා
මිදීම වෙත්වා
නිවනම වෙත්වා"

යනුවෙන් භාවනා කිරීමයි. කාමච්ඡන්දයෙන් ඉවත් වී නෙක්ඛම්ම තත්ත්වයට හිත පත් කර ගැනීමයි. මේ ආනාපානසතියමයි. මේ ආනාපානසතිය එකක් ප්‍රහාණය කිරීම සඳහාත් තව එකක් ඇතුළට ගැනීම සඳහාත් බව තේරුම් ගත යුතුයි. සිතට ආ කාම අරමුණු - රූප, ශබ්ද, ගන්ධ ආදී අරමුණු අත්හැරීම සඳහා ඉහත සඳහන් කළ "අත්හැරීම නාථයි" ආදී වශයෙන් වන කර්මස්ථානය භාවිත කළ හැකියි.

දෙවන පියවර ව්‍යාපාදයෙන් ඉවත් වීමයි. එහෙම නැත්නම් අව්‍යාපාද තත්ත්වයට හිත පත්වීමයි. ව්‍යාපාදය යනු හිතේ ඇති වන ද්වේෂයයි. නොයෙක් අවස්ථාවල මේ ද්වේෂය සිතේ මතු වේ. තමන් අකමැති කුමන හෝ රූපාරම්මණයක් හෝ ශබ්දාරම්මණයක් හෝ සළායතන ආශ්‍රිතව වෙනත් ආරම්මණයක් හෝ අරමුණු වූ විට ව්‍යාපාදයක්, ද්වේෂයක් සිතේ හට ගනී. මේ ද්වේෂය සිතට අරමුණු වූ විට එය දිගින් දිගටම සිතේ මුල් බැස ගනී. එම නිසා ද්වේෂ සිතිවිල්ලක් ඇති වූ වහාම සිතෙන් එම සිතුවිල්ල ඉවත් කිරීම නැතිනම් ප්‍රහාණය කිරීම කළ යුතුයි. අව්‍යාපාද තත්ත්වයට සිත පත්කර ගත යුතුයි. ඒ සඳහා සිතට ඇති වූ එම රූපාරම්මණය අරමුණු කොට මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා යන පරම මෙත්තා කර්මස්ථානයක් භාවිතා කළ යුතුයි. කාමච්ඡන්දයෙන් හා ව්‍යාපාදයෙන් ඉවත් වූ විගසම හිතේ පවතින්නේ නෙක්ඛම්ම, අව්‍යාපාද තත්ත්වයයි. නෙක්ඛම්ම තත්ත්වයට, අව්‍යාපාද තත්ත්වයට හිත පත් වූ විටම සියයට පනහක් හැටක් පමණ සිත සමථයකට පත්වේ. නමුත් තව දුරටත් තුන්වන තත්ත්වයක් මෝහයෙන් මතු වී එන මත් වීමක් සිතේ මතු වේ. මේ මත් ගතියත් ඉවත් කළ යුතුයි. ථීනමිද්ධය ඇති වන්නේ මේ මත් ගතිය නිසයි. කාමච්ඡන්දය, ව්‍යාපාදය නිසා කෙනෙකුගේ හිත මත් වේ. රාග මදය, ද්වේෂ මදය, මෝහ මදය, සීලබ්බත පරාමාස මදය, මාන මදය, තරුණ මදය යනුවෙන් මද වර්ග විසි එකක් ම විග්‍රහ කර ඇත. කුස පිරෙන්න ආහාර ගත් විට බුදිමත ආදිය නිසා අපේ හිතේ ශක්තිය බොහොම දුර්වල වේ. එහෙම නැත්නම් හීන වේ. මේ සියලුම මත් නිසා සිත ථීනමිද්ධයට පත් වේ. රාගය වැඩි වූ විට ද්වේෂ මදය ඇති වේ. ථීනමිද්ධයෙන් ඉවත් වීමට නම් මෝහයෙන් ඉවත් වී අලෝක සංඥාව සිතේ ඇති කර ගත යුතු වේ. "අලෝක" යනු එළියක් නොවේ. "අලෝක" අප මේ ඇලී බැඳී පවත්වා ගෙන යන්නට හදාගත් ලෝකයෙන් ඉවත් වීම අලෝක සංඥාවයි. ථීනමිද්ධයෙන් ඉවත් වීමට නම් අලෝක සංඥා තත්ත්වයට පත් විය යුතුයි.

රාගයෙන් ඉවත් වී සිත සමථ තත්ත්වයටත්, ව්‍යාපාදයෙන් ඉවත් වී අව්‍යාපාද තත්ත්වයටත්, ථීනමිද්ධයෙන් ඉවත් වී අලෝක සංඥා තත්ත්වයට පත් වූ විට කෙනෙකුගේ සිතේ ඇතිවන්නා වූ අසහනය, උද්ධච්චය එහෙම නැත්නම් සිතේ ඇති වී තිබෙන කම්පනය, භයට, විඳවීමට, තැති ගැනීමට පත්වන ගතිය ඉවත් වේ. උද්ධච්චයෙන් ඉවත් වීමත් සමඟම හිත සමථයට පත් වීම නිසා කිසිම කම්පනයක් හිතේ ඇති නොවේ. උද්ධච්චයෙන් ඉවත් වීමත් සමඟ අවික්ඛේප යන තත්ත්වයට එහෙම නැත්නම් සමථ තත්ත්වයට යම් පුද්ගලයෙකුගේ හිත පත් වූ විට ඔහු නකම්පති, නචලති, නභයති, නවේදති, නවික්ඛේපති යනුවෙන් බුදුපියාණන් වහන්සේම මේ සමථ තත්ත්වය විග්‍රහ කර වදාළහ.

සිත උද්ධච්චයට පත්වීමට, අසහනයට පත් වීමට, හිතේ එකඟතාවයක් ඇති කරගත නොහැකි තත්ත්වයට පත් වීමට මූලික හේතු කාමච්ඡන්දය, ව්‍යාපාදය, ථීනමිද්ධය යන ගති තුනයි. මේ ගති තුන ඉවත් වීමත් සමඟම සමථ තත්ත්වයට, අවික්ඛේප තත්ත්වයට හිත පත්වේ. අවික්ඛේප තත්ත්වයට හිත පත් වීමෙන්, උද්ධච්චය ඉවත් වූ විගසම විචිකිච්චාව, විඤ්ඤාණයේ කිළිටි වූ කැමැත්ත ඉවත් වී හේතුඵල දහමට බහා ගළපා බැලීමේ ශක්තිය ලැබේ. ධම්මෝ වචත්තේන ශක්තිය ලැබේ. මේ සමථ තත්ත්වයට, එහෙම නැත්නම් උද්ධච්චයෙන් ඉවත් වූ තත්ත්වයට පත් වූ විගසම මනස බොහෝම පිරිසිදු බවට පත් වේ. ඒ අවස්ථාවේදී අවශ්‍ය නම් විපස්සනා භාවනාවකටත් මාරුවීමේ හැකියාව ඇත. එහෙම නැතිනම් තව දුරටත් සමථයේම රැඳෙමින් ධ්‍යාන ලබා ගැනීමටත් හැකියාව ඇත.

කාමච්ඡන්දයෙන් ඉවත් වී නෙක්ඛම්ම තත්ත්වයටත්, ව්‍යාපාදයෙන් ඉවත් වී අව්‍යාපාද තත්ත්වයටත්, ථීනමිද්ධයෙන් ඉවත් වී අලෝක සංඥා තත්ත්වයටත්, උද්ධච්චයෙන් ඉවත් වී සමථ තත්ත්වයටත්, අවික්ඛේප තත්ත්වයටත්, විචිකිච්චාවෙන් ඉවත් වී ධම්මෝ වචත්තේන තත්ත්වයටත් ඊට පසු අවිද්‍යාවෙන් ඉවත් වීමත් සමඟම ඥාණ පහළ වීමට පටන් ගැනීමත් සමඟ පළමුවන අරිය ධ්‍යානයට පත් වන්නට හැකියාව ලැබේ.

කාමච්ඡන්දය ආදී කොට ඇත්තා වූ පංච නීවරණ වලින් ඉවත් වීමත් සමඟ පළමුවන ධ්‍යානයට පත් වී සවිතක්ක, සවිචාර, ප්‍රීති, සුඛ, ඒකග්ගතා තත්ත්වයට පත්වීම සිදුවේ. මේ අවස්ථාවේදී විතක්ක, විචාර නොකරයි. මෙතෙක් විතක්ක, විචාර පැවැත්වීමට හේතුව විඤ්ඤාණයේ ඇති උද්ධච්ච බව හා විචිකිච්චාවය. එහෙම නැත්නම් නොයෙකුත් ආකාර වූ රූප, වේදනා, සංඥා ආදී අරමුණු දිගේ කාම විතක්ක, ව්‍යාපාද විතක්ක, ථීනමිද්ධ ආදී නීවරණ ධර්ම ඇසුරු කිරීම සිතේ උද්ධච්ච බවට, විචිකිච්චා බවට හේතුවයි. නමුත් දැන් සිතේ පවතින්නේ සවිතක්ක, සවිචාර නිසා සිත බොහොම යහපත් වේ. නෙක්ඛම්ම, අව්‍යාපාද, අලෝක සංඥා වාගේම ධම්ම වචත්තේන යන ගති සිතේ පවතින නිසා සවිතක්ක, සවිචාර, ප්‍රීති, සුඛ, ඒකග්ගතා යන පළමුවන ධ්‍යානයට සිත පත් වේ. ඊට පසු සවිතක්ක, සවිචාර ඉවත් කර දෙවන ධ්‍යානයට පත්විය හැකිය. ඊළඟට ප්‍රීතිය ඉවත් කර තුන්වන ධ්‍යානයටත්, තුන්වන ධ්‍යානයෙන් පසු ප්‍රීති සුඛ දෙක ම ඉවත් කර සෝමනස්ස දෝමනස්ස සියල්ලම ඉවත්කර ඒකග්ගතාව හා උපේක්ඛා පමණක් ඉතිරි වන හතර වන ධ්‍යානයටත් පත්වීමට හැකියි. හතර වන ධ්‍යානයෙන් පසුව රූප සංඥා, පටිඝ සංඥා, නානත්ථ සංඥා ඉවත්කර ආකාසඤ්ඤායතනයටත්, එයත් ඉවත් කර විඤ්ඤාණං චායතනයටත්, විඤ්ඤාණංචායතනයත් ඉවත් කර නේවසඤ්ඤානාසඤ්ඤායතනයටත්

පත්වීමත් සමඟම සමථ ධ්‍යානයන් එතැනින් අවසන් වේ.

මෙහි විස්තර කරන ලද්දේ සමාධි භාවනාවයි. මෙම සමාධියෙන් ඉදිරි පියවරකට ගමන් කළ නොහැකියි. කෙසේ වුවද කිසිම කෙනෙකුට දිගින් දිගටම සමථ භාවනාව විතරක්ම වැඩීමෙන් ඵලක් නැත. ඊට හේතුව සමථය තුළ නිවනක් හෝ මාර්ගඵල හෝ නොමැති වීමයි. එයින් ලබා ගත හැක්කේ ධ්‍යාන පමණකි. ධ්‍යාන එකක්, දෙකක්, තුනක්, හතරක් ලබන විට හිත සමථයට පත් වී චේතෝ විමුක්තියත් මතුවිය හැකිය. එම නිසා බුදුපියාණන්වහන්සේගේ ධර්මය අනුගමනය කිරීමට බලාපොරොත්තු වන හැම කෙනෙකුටම තමන්ට කුමන අවස්ථාවකදී හෝ ඥාණ පහළ වූ විට එහෙම නැත්නම් සිත සමථයකට පත් වූ විට විපස්සනා භාවනාවට මාරු වීමේ හැකියාව තිබේ. නමුත් විපස්සනා භාවනාව යනුවෙන් අර්ථ ගන්වන්නේ කුමක්ද? යන්න පළමුව වටහා ගත යුතුයි. විපස්සනා භාවනාව යනුවෙන් අදහස් කරන ප්‍රායෝගික ක්‍රියාකාරකම කුමක්ද යන්න දැන ගත්තේ නැත්නම් එම භාවනාවට මාරු වීමටත් නොහැකියි.

ඉහත සඳහන් කළ කිසිම අවස්ථාවකට නොගිහින්ම විපස්සනා භාවනාවක් පමණක්ම වුවත් භාවිතා කළ හැකියි. මේ සමථ භාවනාවේදීත් විස්තර වන්නේ අරිය අනාපානසතියයි. මෙහිදී සිදු වන්නේ හිත සමථයකට පත් කරගැනීමයි. ඊට පසු ධ්‍යාන ලබා ගැනීමට අවශ්‍ය නම් අටවන ධ්‍යානයටත් පත් විය හැකියි. නමුත් මේ කටයුත්ත සඳහා දීර්ඝ කාලයක් ගතවන නිසා අපට මේ කෙටි ජීවිත කාලය තුළ නිවන් අවබෝධ කර ගැනීමට අවශ්‍ය නම් මාර්ගඵලයක් ලබා ගැනීමට අවශ්‍ය නම් දිගින් දිගටම සමථ භාවනාව පමණක්ම වැඩීම නිෂ්ඵල කාර්යයකි. මුලින් බොහෝම කෙටි වශයෙන් සමථ භාවනාවක් වඩා කාමච්ඡන්ද, ව්‍යාපාද, ථිනමිද්ධ, උද්ධච්ච, කුක්කුච්ච, විචිකිච්චා යන පංච නීවරණ ධර්ම වලින් ඉවත් වී පසුව විපස්සනා භාවනාවකට මාරු විය හැකිය.

මනසක් ඇති ඕනෑම මිනිසෙකුට මෙය සරළ ආකාරයට තේරුම් ගත හැකිය. මෙතැන විපස්සනා භාවනාවේදී විග්‍රහ වන්නේ ආනාපානසති භාවනාවමයි. අනාපානසතිය යැයි හඳුන්වන්නේ හුස්ම ගැනීම, පිට කිරීම දෙස බලා සිටීම හෝ බඩ පිම්බීම හැකිළීම දෙස බලා සිටීම හෝ නොවෙයි. යම්කිසි දෙයක් ඇතුළට ගැනීමත් එසේ ඇතුළට ගැනීම නිසා යම්කිසි දෙයක් පිට කිරීමත් පමණි. ආන යනු ඇතුළට ගැනීමයි. පාන යනු පිට කිරීමයි. එනම් යම්කිසි දෙයක් ආශ්‍රය කිරීමත් යම්කිසි දෙයක් ප්‍රහාණය කිරීමත් කළ යුතුයි. මෙය විපස්සනා භාවනාවයි.

විපස්සනා භාවනා කර්මස්ථාන වලදී පළමුව විග්‍රහ වන්නේ ත්‍රිලක්ඛණ භාවනාවයි. බුදුරජාණන්වහන්සේ මාගධී භාෂාවෙන් දේශණා කර වදාළේ,

නිච්ච සංඥා පජහති
අනිච්චානු පස්සී විහරති
සුඛ සංඥා පජහති
දුක්ඛානු පස්සී විහරති
අත්ථ සංඥා පජහති
අනත්ථානුපස්සී විහරති යනුවෙනුයි.

අනිච්චයි, දුක්ඛයි, අනත්ථයි යනුවෙන් විපස්සනා භාවනාව වඩා ඒවා ඇතුළට ගැනීමත් ඇතුළේ පවතින නිච්ච, සුබ, අත්ථ සංඥා ප්‍රහාණය කිරීමත් කළ යුතුයි. මෙය තවදුරටත් විග්‍රහ කළ යුතුයි.

නිච්ච සංඥාවක් සිතකට ඇතුලු වුණේ කෙසේද? යන්න මුලින්ම විග්‍රහ කර බැලිය යුතුයි. අනිච්චානුපස්සනා භාවනාව කරන්නේ ඇයි? මෙය මුළු බුද්ධ දේශණාවේම ගැඹුරුම තැනයි. මේ මුළු බුද්ධ ධර්මයම අසා දැන ගත්තේ මේ පිළිබඳව දැන ගැනීම සඳහායි. බුද්ධ ධර්මය යනු පටිඉච්ච - සං උත්පාද (පටිච්චසමුප්පාද) ධර්මයයි. රූප අරමුණක්, ශබ්ද අරමුණක්, ගන්ධ අරමුණක්, රස අරමුණක්, පොට්ඨබ්බ අරමුණක්, මනෝ අරමුණක් යන මේ හය ආකාර වූ අරමුණු වලට පිටස්තරව වෙනත් කිසිම අරමුණක් හිතට අරමුණු විය නොහැකියි. ඇහැට රූපයක් අරමුණු වූ පමණින්ම සංඛතයක් බිහි නොවේ. එනම් පටිච්ච නොවුණි නම් පටිච්ච සමුප්පාද විග්‍රහය තුළදී විග්‍රහ කර පෙන්වා දුන් පරිදි ''සං'' නොඋපදී.

චක්ඛුංච පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං
සෝතංච පටිච්ච සද්දංච උප්පජ්ජති සෝත විඤ්ඤාණං
ඝාණංච පටිච්ච ගණ්ධංච උප්පජ්ජති ඝාණ විඤ්ඤාණං
ජිව්හංච පටිච්ච රසංච උප්පජ්ජති ජිව්හා විඤ්ඤාණං
කායංච පටිච්ච පොට්ඨබ්බංච උප්පජ්ජති කාය විඤ්ඤාණං
මනාච පටිච්ච ධම්මංච උප්පජ්ජති මනෝ විඤ්ඤාණං

මේ හය අවස්ථාවේදීම ඉන්ද්‍රියයන්ට අරමුණු ලැබුණු හැමවිටම පටිඉච්චවීම සිදුවේ. "පටිඉච්ච" වීම යනු කැමැත්තෙන්ම බැඳීමයි. පෘථග්ජන පුද්ගලයාගේ සිතේ නිතරම කැමැත්තෙන්ම යම් අරමුණකට බැඳීමක් ඇති වේ. මේ පටිඉච්ච වීම නිසා සිතේ නොදැනීම විඤ්ඤාණ ශක්තියෙන් "සං" උපදී. එහෙම නැත්නම් රාග, ද්වේෂ, මෝහ උපදී. ඒ රාග, ද්වේෂ, මෝහ ඉපදීමේ ශක්තිය "සං"ලෙස විස්තර වේ. ඉන්ද්‍රියය හය ආශ්‍රය කරගෙන විඤ්ඤාණය ඇතිවන ආකාරය ඉහතින් විස්තර කරන ලද ආකාරයට බුදුපියාණන්වහන්සේ පෙන්වා වදාළහ. මේ පටිඉච්ච වීම එහෙම නැත්නම් කැමැත්තෙන් බැඳීම යන ක්‍රියාවෙහි අන්ත දෙකක්ම තිබේ. කාමච්ඡන්ද යන ප්‍රිය බවත්, ව්‍යාපාදය යන අප්‍රිය බවත් යන අන්ත දෙකටම පටිඉච්ච වීම සිදුවේ. කැමැත්තෙන් බැඳීමය යන්න පමණක්ම පටිඉච්ච වීම යනුවෙන් අදහස් නොකෙරේ. එය හොඳින්ම තේරුම් ගත යුතුයි. අකමැත්තෙන් ගැටීමත් අන්තගාමී පටිඉච්ච වීමකි. මෙයට උදාහරණයක් ලෙස තමා ප්‍රිය කරන මිත්‍රයෙකුට, නෑදෑයෙකුට හොඳක් වීම දැකීමට අපි කැමැති වෙමු. ඒවාගේම තමන් අප්‍රිය කරන විරුද්ධකාරයෙකුට නපුරක්, විනාශයක්, නරකක් සිදුවනවා දැකීමටත් අපි කැමති වෙමු. එතැනදීත් කැමැත්තකින් බැඳේ. කැමැත්තෙන් බැඳීම විතරක් නොව අකමැත්තෙන් ගැටීමත් එහෙම නැත්නම් අකමැත්තෙන් ප්‍රතික්ෂේප වීමත් යන අන්ත දෙකම මේ පටිච්ච වීමට අයිති වේ. අපි අකමැති පුද්ගලයාට හානියක් සිදුවනවාට අපි කැමති වෙමු.

මේ පටිඉච්ච වීම සිදුවනුයේම ආයතන දෙකක් ස්පර්ශ වීම හේතුවෙනි. එහෙම නැත්නම් පටිඉච්ච වීම සිදු නොවේ. ඇසයි රූපයයි ස්පර්ශ වූ විට චක්ඛු විඤ්ඤාණය ඇති

වන ආකාරයටම කනයි, ශබ්දයයි ස්පර්ශ වූ විට සෝත විඤ්ඤාණය ඇතිවීම සිදුවේ. අනිකුත් ඉන්ද්‍රියයන් සම්බන්ධ වූ විට ඒ ඒ නමින් ඇති විඤ්ඤාණ හට ගන්නේ ඒ ආකාරයටයි. නමුත් ස්පර්ශ වීම විතරක් ප්‍රමාණවත් නොවේ. පටිඉච්ච වීමක් සිදුවිය යුතුයි. පටිඉච්ච වීම සිදු වූයේ නැත්නම් විඤ්ඤාණය හට ගැනීමක් සිදු නොවේ. පටිඉච්ච වීම, විඤ්ඤාණ ශක්තියක් උත්පාදනය වීමට "සං" උත්පාදනය වීමට එකම හේතුවයි. පටිඉච්ච වුයේ නැත්නම්, දෙක එකට බැඳුනේ නැතිනම් අපේ හිතේ විඤ්ඤාණ ශක්තියක් මතු විය නොහැකියි.

මේ අවස්ථාවේදී හිත ක්‍රියාත්මක වන ආකාරය බැලිය යුතුයි. යම්කිසි දේකට හිත කැමැත්තෙන් පටිඉච්ච වූ විට, බැඳුනු විට ඊට පසු එය එතැනින් නොනැවතී "අභිඉච්ච" වේ. දැඩි කැමැත්තක් හිතේ ඇති වේ. ඇස පිනවන රූපයක් නැවත නැවතත් බැලීමට නැවත නැවතත් ගැටීමට සිත අභිඉච්ච වේ. අභිජ්ජාවක් දැඩි ලෝභයක් හිතේ ඇති වේ. මේ අභිජ්ජාව නිසා අපේ හිතේ "නිච්ච සංඥාව" මතු වේ. ප්‍රිය රූපයක් නම් ඒ ප්‍රිය ආකාරයෙන්ම ඒ රූපය දිගින් දිගටම දැකීමේ අවශ්‍යතාවයක් ඇති වේ. ඉච්ච, නිච්ච කර ගැනීම යනුවෙන් විග්‍රහ වන්නේ මේ අවස්ථාවයි. නිච්ච යනු ස්ථිර කර ගැනීමයි. ඉච්ච, පටිඉච්ච වීමත්, පටිඉච්ච අභිඉච්ච වීමත් නිසා "නිච්ච" කර ගැනීමත් සිදුවේ. මේ නිච්ච කර ගැනීම නිසා අපේ හිත "උද්ධච්ච" ගතියට පත් වේ. මේ නිච්ච යන ගතිය දිගටම පැවැත්වීමට නොහැකි නිසා තමන්ගේම හිතේ උද්ධච්චයක්, එහෙම නැත්නම් වික්ෂෝපයක්, අසහනයක් මතු වේ. මේ ආකාරයට පටිඉච්ච වීම සිදු වූයේ නැතිනම් "නිච්ච" සංඥාවක් ඇති නොවේ. නිච්ච සංඥාව ඇතිවුණේ නැතිනම් උද්ධච්ච සංඥාවක් ඇතිවීමක් සිදුනොවේ. උද්ධච්ච සංඥාවක් නැත්නම් විඤ්ඤාණ සිතේ කිළිටි වූ කැමැත්තක් (විචිකිච්චාවක්) මතු නොවේ. මේ "පටි ඉච්ච" "නිච්ච" යන ගති දෙක සංසාර ගමනට ප්‍රධාන හේතුවයි. එහෙම නැත්නම් අපේ හිත අසහනයට පත් වන්න, කිළිටි වන්න, උදහස් බවට, කම්පනයට, භයට, වේදනාවට, වින්දනයට පත්වන්න හේතුව පටිඉච්ච හා නිච්ච යන ගති දෙකමයි.

රූප, ශබ්ද, ගන්ධ ආදිය මේ ඇස, කන ආදී ඉන්ද්‍රියයන් හයට ස්පර්ශ වීමෙන් ඇති වන පටිඉච්ච වීම තේරුම් ගැනීමට හැකියාව ඇත්තේ තම තමන්ටමයි. තමන්ගේ ඇස, රූපයට බැඳීමත්, ඇලීමත් නැත්නම් ගැටීමත් මෙසේ ඇලුණු, ගැටුණු රූපය රිසි ආකාරයෙන් පවත්වා ගෙන යාමත් සැප විඳිනවා යනුවෙන් විග්‍රහ කළ හැක. සුබ සංඥාව නැතිනම් සැප යනු ඇස පිනවීම, කන පිනවීම, නාසය හා දිව පිනවීම, කය පිනවීම, මන පිනවීමයි. මේ හය ආකාර වූ ඉන්ද්‍රියයන් පිනවීම පෘථග්ජන පුද්ගලයෙකුගේ සැප ලෙස හඳුන්වනු ලැබේ. නිච්ච සංඥාවක් ඇති කර ගන්නේ නිතරම සැප බලාපොරොත්තුවෙනි. පටිඉච්ච වීම නිසා සිතේ ඇති වන නිච්ච සංඥාව හේතුවෙන් මතුවන ගතිය "සුබ" සංඥාව හෙවත් සැප විඳීමේ අවශ්‍යතාවයි. සැප විඳීමේ ලෝභකම නිසා සුබ සංඥාව ඇති වේ. සුබ සංඥාව නිසා අත්ථ සංඥාව එහෙම නැත්නම් මමත්වය, අස්මිමානය, මඤ්ඤතාව, තමාය, මමය යන තත්ත්වයක් ඇති වේ. නිච්ච සංඥාවක්, සුබ සංඥාවක් ඇති වන්නේ නැතිනම් අත්ථ සංඥා (මේ "මම") ඇති නොවේ. ඇත්ත ඇති සැටියට තේරුම් ගත්තා නම් "මම" යන සංඥාව ඇති නොවේ.

නිච්ච සංඥාව නිසා සුබ සංඥාවක්, සුබ සංඥාව නිසා අත්ථ සංඥාවක් අත්ථ සංඥාව නිසා සෑම පෘථග්ජන පුද්ගයෙකුගේම සිතේ නන්දි රාගයක් ඇති වේ. නන්දි යනු ඡන්දරාගයේ මුලයි. අභිනන්දනය යන්නෙහි මුල් අවස්ථාවයි. නන්දි එහෙම නැත්නම් නන්දනය යනු සිත පිනවීමේ කැමැත්තයි. ඒ නන්දි සංඥාවක් සිතට බැස ගත් විට ඒ නිසා සිතේ රාගයක් මතුවේ. රාගය නිසා සිතේ සමුදය ධර්මයක් බිහි වේ. සමුදය ධර්මයක් බිහි වීම නිසා අප යම් යම් සංඛත ධර්ම උපාදානය කර ගනී. මෙතැන පියවර හතක්ම විග්‍රහ කළ හැක. මේ පියවර හතම එකම තැනකින් ආරම්භ කළ යුතුයි. මේ පියවරවල් එකක් හෝ මැදින් ආරම්භ කළ නොහැක.

1. පටිඉච්ච නිසා නිච්ච සංඥාව
2. නිච්ච සංඥාව නිසා සුබ සංඥාව
3. සුබ සංඥාව නිසා අත්ථ සංඥාව
4. අත්ථ සංඥාව නිසා නන්දි සංඥාව
5. නන්දි සංඥාව නිසා රාග සංඥාව
6. රාග සංඥාව නිසා සමුදය
7. සමුදය නිසා උපාදානය යනුවෙන් මේ පියවර හතම එක දිගටම පෘථග්ජන සිතක බිහි වේ.

අප යමක් කැමැත්තෙන්ම උපාදානය කර ගැනීමට පෙර මෙම පියවර හතම සම්පූර්ණ විය යුතුයි. බුදුරජාණන්වහන්සේ මේ විපස්සනා භාවනාවෙන් පෙන්වා වදාළේ ආනාපානසතියයි. "නිච්ච සංඥා පජහති, අනිච්චානුපස්සී විහරති" යනුවෙන් නිච්ච සංඥාව ප්‍රහාණය කිරීම සඳහා අනිච්චානුපස්සනාව වැඩිය යුතු බවයි.

මේ අනිච්චානුපස්සනාව යනු කුමක්දැයි නැවත විග්‍රහ කර බැලිය යුතුයි. තමන්ගේ කැමැත්තෙන් ප්‍රිය රූපයට බැඳීමත් ඒ බැඳුණු රූපයට අපේ හිතේ ඇති කැමැත්ත මොහොතකට වඩා පවත්වාගෙන යාමට නොහැකි බවත්, එය ගෙවී විපරිණාමයට පත් වී යන බව තමන් ම මෙනෙහි කර, ප්‍රත්‍යක්ෂ කර අවබෝධ කර ගැනීමත් "අනිච්චානුපස්සී විහරති" යනුවෙන් විස්තර කළ හැක. මෙහි අනිච්ච යනුවෙන් විග්‍රහ වන්නේ තමන්ගේම හිතේ ඇති වන ප්‍රිය හෝ අප්‍රිය හෝ ස්වභාවයයි. අන්තගාමී ලෙසින් අන්තයකට බැඳීමේ කැමැත්තයි. ඒ කැමැත්ත අපට රුචි සේ, මනාප සේ එක දිගට ම පවත්වාගෙන යෑමට හැකි දෙයක් නොවේ. මේ ගතිය, සත්‍යය ස්වභාවය ප්‍රත්‍යක්ෂ කර, අවබෝධ කර ගත් විට සත්‍යය වශයෙන්ම තේරුම් ගත් විට එවිට ඒ පුද්ගලයා "නිච්ච සංඥා පජහති, අනිච්චානුපස්සී විහරති" ක්‍රියාත්මක කළ අයෙකු බවට පත්වේ. මේ අවස්ථාවේදී පටිඉච්ච බවට පත් වීම සිදුනොවේ. එනම් පටිනිස්සග්ග වේ.

උදාහරණයක් ලෙස අපි ප්‍රිය රූපයක් ගනිමු. ඒ ප්‍රිය රූපය අපේ ඇසේ ස්පර්ශ වී ගැටී, පටිඉච්ච වුවද ඊට අපි නොබැඳී සිටිමු. එසේ නොබැඳෙන්නේ ඒ ප්‍රිය රූපය තව දවසකින්, දෙකකින් සමහර විට පැයකින්, දෙකකින් වුවද ගෙවී වෙනස් වන නිසයි. මල් පූජාවෙන් බුදුරජාණන්වහන්සේ මේ ධර්මතාවය අවබෝධ කර ගත යුතු බව පෙන්වා වදාළහ. ඒ මල්වල වර්ණ, ගන්ධ සියල්ලම තව ස්වල්ප වේලාවකින් වෙනස් වී විපරිණාමයට පත් වී අවසන් වේ. අප මොන තරම් ආශා කළත්, කැමති වුණත්, ඉච්ච

වුණත් ඒ මල්, ඒ ආකාරයට දිගටම නොපවතී. පැයකින් දෙකකින් තුනකින් ඒ මල් පර වී, විනාශභාවයට පත් වේ. මේ ආකාරයට අනුපස්සනාවේ යෙදීම "අනිච්චානුපස්සී විහරති" යනුවෙන් විග්‍රහ කර වදාළහ. අපේ කැමැත්ත අනුව පවත්වා ගෙන යා හැකි කිසිම දෙයක් නැති බව මෙයින් අවබෝධ කර ගත යුතුයි. මේ ත්‍රිලක්ඛණ භාවනාවේ ආරම්භයයි. ත්‍රිලක්ඛණය යනුවෙන් අදහස් කරන්නේ ලක්ෂණ තුනක් ගැන නොවෙයි. ඛණ තුනක් පිළිබඳවයි. මෙතන ත්‍රිලක්ඛණ යනුවෙන් අදහස් කළේ ඛයකර, අස්කර දැමිය යුතු ගති තුනක් පිළිබඳවයි. අපි ඛයකර ඉවත් කර මුළින්ම උදුරා අස්කර දැමිය යුතු ගති තුන වන්නේ,

1. නිච්ච බව - නිච්ච සංඥාව
2. සුබ බව - සුබ සංඥාව
3. අත්ථ බව - අත්ථ සංඥාව

මේ ගති ඉවත් කිරීම සඳහා,

1. අනිච්චානුපස්සනාව
2. දුක්ඛානුපස්සනාව
3. අනත්ථානුපස්සනාව

භාවනා කර ප්‍රත්‍යක්ෂ කර පිරිසිඳ දැක ගත යුතුයි. මෙලෙස ඉවත් කළයුතු ගති තුන මොනවාද යන්න නිවැරදි ලෙස තේරුම් නොගත්තේ නම් මේ "ඛණ" සම්පත්තිය ලැබෙන අවස්ථාව තේරුම් නොගත්තේ නම් චතු අරිය සත්‍යය අවබෝධ වී, දුක අවබෝධ වී, දුක්ඛ සමුදය අවබෝධ වී, දුක්ඛ නිරෝධ කර ගැනීමටත් හැකියාවක් නොලැබේ. එම නිසා මෙතැන ධර්ම අර්ථයම හොඳින් තේරුම් ගත යුතුයි. මෙතැන විස්තර වන්නේ ඛය කර දැමිය යුතු උදුරා ඉවත් කර දැමිය යුතු කාරණා තුනක් පිළිබඳව මිස ක්ෂණ සම්පත්තිය නොවෙයි. ඛණ සම්පත්තියයි. ''ඛීණං පුරාණං, ආසවක්ඛයා ඥාණං, ඛයං විරාගං" යන ඛණ ලෙස සඳහන් වන්නේ පජහති, පහානාති, පස්සති එනම් ඉවත් කළ යුතු, ප්‍රහාණය කළ යුතු, බැහැර කළ යුතු යන තේරුමයි. මේ ත්‍රිලක්ඛණ භාවනාවෙන් කරගත යුතුදේ කිසිම කෙනකුට සිතාගත නොහැකිව ධර්මය යටපත් වී තිබුණි. යථාර්ථය වැසී තිබුණි. නමුත් දැන් එය මතු කර, විවෘත කර අවසානයි. බුද්ධ දේශණාවේ ඇති නිවැරදිම ආනාපානසතිය විග්‍රහ වන්නේ ත්‍රිලක්ඛණ භාවනාවේදී පමණි.

නිච්ච සංඥාව, සුබ සංඥාව, අත්ථ සංඥාව ප්‍රහාණය කිරීම සඳහා පිළිවෙලින් අනිච්චානුපස්සනාවත්, දුක්ඛානුපස්සනාවත්, අනත්ථානුපස්සනාවත් වඩන්නට හැකියි. නන්දි බව, එහෙම නැත්නම් අභිනන්දය හිතේ ඇති වන්නා වූ කැමැත්තේ දැඩි බව ඉවත් කිරීම සඳහා නිබ්බිදානුපස්සනාව වැඩිය යුතුයි. නිබ්බිදාව යනු නොබැඳීමයි. බිහිකිරීමට හේතු වන්නා වූ බැඳීමෙන් දුරුවීම නිබ්බිදානුපස්සනාවෙන් සිදුවේ. බැඳීමෙන් නික්මීම නිබ්බිදාවයි.

ඊට පසු රාගය දුරැලීම සඳහා විරාගානුපස්සනාව වැඩිය යුතුයි. රාගයක් ඇති වන්නේ සිතේ ඇති වන කැමැත්ත නිසයි. මේ රාගය නිසා "සං "උපදී. සම්බන්ධයක් ඇති වේ. ඊළඟට සමුදය දුරු කිරීම සඳහා නිරෝධය කිරීම සඳහා නිරෝධානුපස්සනාව වැඩිය යුතුයි. නිර්+උදා කිරීම නිරෝධ කිරීම යනුවෙන් හැඳින්වේ. ඊළඟට පංචස්කන්ධය උපාදානය කර ගැනීමෙන් ඉවත් වීම සඳහා පටිනිස්සග්ගානුපස්සනාව වැඩිය යුතුයි. මේ අවස්ථාව වන විට පියවර හතක් සම්පූර්ණ වී අවසානයි.

1. අනිච්චානුපස්සනාව වඩා "න ඉච්ච" තත්ත්වයට පත් වීම (නිච්චං පජහති)
2. දුක්ඛානුපස්සනාව වඩා "න සුඛ" තත්ත්වයට පත් වීම (සුඛං පජහති)
3. අනත්ථානුපස්සනාව වඩා "න අත්ථ" තත්ත්වයට පත් වීම (අත්ථං පජහති)
4. නිබ්බිදානුපස්සනාව වඩා "න නන්දි" තත්ත්වයට පත් වීම (නන්දිං පජහති)
5 විරාගානුපස්සනාව වඩා "න රාග" තත්ත්වයට පත් වීම (රාගං පජහති)
6. නිරෝධානුපස්සනාව වඩා "සමුදය" වීම වළක්වා ගැනීම (සමුදයං පජහති)
7. පටිනිස්සග්ගානුපස්සනාව වඩා "උපාදානය" කර ගැනීම නැවැත්වීම (ආදානං පජහති)

මේ විපස්සනා භාවනාවේ තව ඉදිරි පියවර හතක් තිබේ. වයානුපස්සනාව වඩා ඉවත්කර ගතයුතු කොටසක් වගේම බයානුපස්සනාව, විපරිණාමානුපස්සනාව, අනිමිත්තානුපස්සනාව, අප්පණිහිතානුපස්සනාව, සුඤ්ඤතානුපස්සනාව, විවට්ටානුපස්සනාව වඩා ඉවත් කර ගත යුතු ඒ ඒ කොටස් තිබේ. මේ පියවරයන් ඉදිරියේදී විස්තර කර ඇත. මේ මුල් පියවර හත හොඳින් තේරුම් ගැනීමෙන් සෝවාන්, සකෘදාගාමී, අනාගාමී යන ඵල තුනටම පත් වීමටත් අරහත් ඵලය සඳහා ඉදිරි පියවර සියල්ල උපකාර කර ගැනීමත් කළ යුතුයි.

අනිච්චානුපස්සනාව, දුක්ඛානුපස්සනාව, අනත්ථානුපස්සනාව, නිබ්බිධානු පස්සනාව, විරාගානුපස්සනාව, නිරෝධානුපස්සනාව, පටිනිස්සග්ගානුපස්සනාව යන අවස්ථා හත තේරුම් ගෙන ඒවා විපස්සනා භාවනාවක් ලෙස වැඩීමට යම්කිසි කෙනෙකුට හැකියාව ඇත්නම් සංයෝජන පහක්ම ඉවත් කර ගැනීම සිදුකර ගත හැක. අනුසය කොටස් හතරක්ම බයවීමත් ඒ සමඟ සිදුවේ.

අප මුළින්ම කරගත යුත්තේ අපේ හිතේ ඇතිවන ආරම්මණයකට, නිමිත්තකට, කැමැත්තකට අන්තවාදීව බැඳීමෙන් හා අකමැත්තට ගැටීමෙන් ඉවත් වීමට ක්‍රියා කිරීමෙන් සිත උපේක්ඛා තත්ත්වයට පත්කර ගැනීමට ක්‍රියා කිරීමයි. එනම් නිච්ච, අනිච්ච කර ගැනීමටයි. පටිඉච්ච සංඥාව සමථයකට පත්කර ඉවත් කිරීමටයි. මෙතැනදී වෙනම සමථ භාවනාවක් නොකළද උද්ධච්චය ඉවත් වීම, සමථයකට පත්වීම ඉබේම සිදුවේ. මෙය විපස්සනා පුබ්බංගම සමථ භාවනාව යනුවෙන් හැඳින්වේ. විපස්සනාව වැඩීමත් සමඟ සමථයත් ඉබේම වැඩේ. මෙයම යුගනද්ධ භාවනාව ලෙස විග්‍රහ කළ හැක.

මේ නිච්ච සංඥාවක් සිතේ මතුවීම පිළිබඳව, සිතින් පටිඉච්ච වීම පිළිබඳව බුදුරජාණන් වහන්සේ නොයෙකුත් ආකාරයට විභංග කර පෙන්වා දී ඇත. මුළු අභිධර්මයේම විග්‍රහ වන්නේ මෙම විභංගය පිළිබඳවයි. මෙම විභංගයෙන් කොටසක් ගෙන විග්‍රහ කර බලමු.

පළමුව විග්‍රහ කළ යුත්තේ රූප නිමිත්තයි. ''චක්ඛුං ච පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං'' රූපයකින් තොරව කිසිම කෙනෙකුට වේදනාවක්, සංඥාවක්, සංඛාරයක්, විඤ්ඤාණයක් සිතක මතු විය නොහැකියි. එනම් එය බුද්ධ ධර්මයට සම්පූර්ණයෙන්ම විරුද්ධ ප්‍රකාශයකි. නමුත් මේ රූප සංඥාව කුමක්ද යන්න පිළිබඳව හොඳින් බෙදා විග්‍රහ කර තේරුම් ගත යුතුයි. මේ රූපය යනු විවිධාකාරයෙන් බෙදිය හැකි දෙයකි. ඒ බෙදීම බුදුරජාණන්වහන්සේ විභංගප්‍රකරණයේ එහෙම නැත්නම්

අභිධර්මයෙන්ම බෙදා දක්වා වදාළහ. රූප යන්න මුළින්ම ප්‍රිය රූප, අප්‍රිය රූප ලෙස කොටස් දෙකකට බෙදිය හැකිය. ඊළගට අතීත රූප, වර්තමාන රූප, අනාගත රූප, දුර රූප, ළඟ රූප, සියුම් රූප, සණ රූප, ආධ්‍යාත්මික රූප, බාහිර රූප, ප්‍රණීත රූප, අප්‍රණීත රූප යනුවෙන් එකොළොස් ආකාරයකට බෙදා පෙන්විය හැකියි. රූප රූපත්, ශබ්ද රූපත්, ගන්ධ රූපත්, රස රූපත්, ස්පර්ශ රූපත්, මනෝ රූපත් යන ආකාරයට නැවතත් බෙදා දක්විය හැකිය. රූප  රූප යනුවෙන් නැවතත් හය ආකාරයකට බෙදිය හැකියි. තවදුරටත් විභංග කරනවා නම් සිහින රූප, රූපවාහිනී රූප ආදී වශයෙන් බෙදා දක්විය හැකියි. මේ ආකාරයට මේ රූප විභංගය තවදුරටත් කළ හැකි වේ. නමුත් මේ විග්‍රහය පමණක් තේරුම් ගැනීම හොඳටම ප්‍රමාණවත් වේ. රූප විවිධාකාරයි. සෑම රූපයක්ම ප්‍රිය, අප්‍රිය නම් පටිච්ච වීමක් වීමට ඉඩ ඇත.

රූපයේ නිච්ච සංඥාව පිළිබඳ කර්මස්ථානයක් භාවනා කරන විට කළයුතු දේ හොඳින් තේරුම්ගත යුතුයි. නිච්ච සංඥාව විවිධ ආකාරව ඇති බව ඉහත පෙන්වා ඇත. ඒ විවිධ ආකාර වූ රූප පිළිබඳව නිච්ච සංඥාවක් මතුවී, යමකට පටිඉච්ච වීමට මුල් වේ. අපේ හිත කිළිටි වීමට මුල් වන්නේ පටිඉච්ච වීමයි. නිච්ච සංඥාවක් ඇති වීමයි. අනිච්චානු පස්සනාව වඩා මේ නිච්ච සංඥාව ඉවත් කර ගත හැකි නම් සිත තුළ පටිඉච්ච වීමක් ඇති නොවේ. අපේ හිත කිළිටි නොවේ. එහෙම නම්, අපේ හිත කිළිටි වීමට මුල්ම හේතුව රූප සංඥාවකට පටිඉච්ච වීමයි. කැමැත්තෙන් හෝ අකමැත්තෙන් ඇලීම හෝ ගැටීමයි.

රූපය වාගේම වේදනාවත් පිළිබඳව මුලින් ප්‍රිය, අප්‍රිය ලෙස බෙදා, ඊළගට අතීත, වර්තමාන, අනාගත, සියුම්, සන ආදී වශයෙන් විවිධාකාරව බෙදා වෙන් කර  අනුපස්සනා කළ හැකියි. ඒ වාගේම වේදනා, සංඥා, සංඛාර හා විඤ්ඤාණත් ඒ විධියටම බෙදා අනුපස්සනා කළ යුතුයි. ස්කන්ධ විභංග කරමින් භාවනා කිරීම ලෙස මෙය විග්‍රහ වේ. රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන ස්කන්ධ පහ පිළිබඳව පහත ආකාරයටම විපස්සනා කළ හැකියි.

රූපං අනිච්චා
වේදනා අනිච්චා
සංඥා අනිච්චා
සංඛාර අනිච්චා
විඤ්ඤාණං අනිච්චාති

රූපං දුක්ඛා
වේදනා දුක්ඛා
සංඥා දුක්ඛා
සංඛාර දුක්ඛා
විඤ්ඤාණං දුක්ඛාති

රූපං අනත්ථා
වේදනා අනත්ථා
සංඥා අනත්ථා
සංඛාර අනත්ථා
විඤ්ඤාණං අනත්ථාති

මේ ත්‍රිලක්ඛණ භාවනාවෙන් පසුව නිබ්බිදානුපස්සනාවත්, විරාගානුපස්සනාවත්, නිරෝධානුපස්සනාවත්, පටිනිස්සග්ගානුපස්සනාවත් යන හතර ආකාරයටමත් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යනු පංචස්කන්ධය ගැනමත් භාවනා කර නිච්ච සංඥාව, සුඛ සංඥාව, අත්ථ සංඥාව, නන්දි සංඥාව, රාග සංඥාව, සමුදය සංඥාව, ආදාන, උපාදාන සංඥාව ඉවත් කළ හැකියි. ඒ ස්කන්ධ අනුව කරන භාවනාවයි. ස්කන්ධ අනුපස්සනාවයි.

ඊට පසු ආයතනවලට අනුව භාවනා කළ හැකියි. චක්ඛායතනය, සෝතායතනය, ඝානායතනය, ජිව්හායතනය, කායායතනය, මනායතනය යන ආයතන හය සඳහා පහත සඳහන් භාවනාව යොදා ගත හැකිය.

චක්ඛුං අනිච්චා
සෝතං අනිච්චා
ඝානං අනිච්චා
ජිව්හං අනිච්චා
කායං අනිච්චා
මනං අනිච්චා

චක්ඛුං දුක්ඛා
සෝතං දුක්ඛා
ඝානං දුක්ඛා
ජිව්හං දුක්ඛා
කායං දුක්ඛා
මනං දුක්ඛා

චක්ඛුං අනත්ථා
සෝතං අනත්ථා
ඝානං අනත්ථා
ජිව්හං අනත්ථා
කායං අනත්ථා
මනං අනත්ථා

ආයතන පිළිබඳව ත්‍රිලක්ඛණ භාවනාවෙන් පසුව නිබ්බිදානුපස්සනාවත්, විරාගානුපස්සනාවත්, නිරෝධානුපස්සනාවත්, පටිනිස්සග්ගානුපස්සනාවත් වඩා පියවර හතම සම්පූර්ණ කර ගත යුතුයි. අභ්‍යන්තර ආයතන හය සේම බාහිර ආයතන හය පිළිබඳවත් භාවනා කළ යුතුයි.

ඇසෙන් දකින රූප
කනෙන් අසන ශබ්ද
නාසයට දැනෙන ගඳ සුවඳ
දිවට දැනෙන රස
කයට දැනෙන පහස
මනසට දැනෙන මතක සටහන්

මේ ආයතන සම්බන්ධයෙනුත් අනිච්ච, දුක්ඛ, අනත්ථ, නිබ්බිදා, විරාග, නිරෝධ, පටිනිස්සග්ග යන අනුපස්සනා භාවනා කළ හැකි වේ. ඊට පසු අභ්‍යන්තර හා බාහිර ආයතන නිසා ඇති වන විඤ්ඤාණ ශක්තිය පිළිබඳව භාවනා කළ යුතුයි,

චක්ඛු විඤ්ඤාණං අනිච්චා
සෝත විඤ්ඤාණං අනිච්චා
ඝාන විඤ්ඤාණං අනිච්චා
ජිව්හා විඤ්ඤාණං අනිච්චා
කාය විඤ්ඤාණං අනිච්චා
මනෝ විඤ්ඤාණං අනිච්චා

මේ ආකාරයටම දුක්ඛ, අනත්ථ, නිබ්බිදා, විරාග, නිරෝධ, පටිනිස්සග්ග යන ඉතිරි හයටත් මේ භාවනාව දීර්ඝ කර අනුපස්සනා කළ හැකියි.

ඊළඟට ධාතු ලෙස එනම් ධාතුමනසිකාරය ලෙස අනුපස්සනා භාවනාවේ යෙදිය හැකියි. ආපෝ, තේජෝ, වායෝ, පඨවි, ආකාශ, විඤ්ඤාණ යනුවෙන් මූලික ධාතු හයක් විග්‍රහ වේ.

ආපෝ අනිච්චා දුක්ඛා අනත්ථා
තේජෝ අනිච්චා දුක්ඛා අනත්ථා
වායෝ අනිච්චා දුක්ඛා අනත්ථා
පඨවි අනිච්චා දුක්ඛා අනත්ථා
අකාශ අනිච්චා දුක්ඛා අනත්ථා
විඤ්ඤාණ අනිච්චා දුක්ඛා අනත්ථා

මේ ආකාරයට ත්‍රිලක්ඛණ භාවනාවෙන් ඉදිරියේ ඇති කොටස් ඉන්ද්‍රියය, ආයතන, ධාතු, ස්කන්ධ, යනාකාරයට භාවනා කළ පසු බුදුරජාණන් වහන්සේ දේශණා කළ පටිච්චසමුප්පාද ධර්මයේ සඳහන් අංගයන් අනුවත් ත්‍රිලක්ඛණය හා සම්බන්ධ කරමින් භාවනා කළ හැකියි.

අවිද්‍යා සංඛාර  අනිච්චා දුක්ඛා අනත්ථා
විඤ්ඤාණ අනිච්චා දුක්ඛා අනත්ථා
නාමරූප අනිච්චා දුක්ඛා අනත්ථා
සළායතන අනිච්චා දුක්ඛා අනත්ථා
ඵස්ස අනිච්චා දුක්ඛා අනත්ථා
වේදනා අනිච්චා දුක්ඛා අනත්ථා

තණ්හා අනිච්චා දුක්ඛා අනත්ථා
උපාදාන අනිච්චා දුක්ඛා අනත්ථා
භව අනිච්චා දුක්ඛා අනත්ථා
ජාති අනිච්චා දුක්ඛා අනත්ථා
ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස, අනිච්චා, දුක්ඛා, අනත්ථා

ත්‍රිලක්ඛණය යොදා ගනිමින් භාවනා කළ පසුව නිබ්බිදානුපස්සනාව, විරාගානු පස්සනාව, නිරෝධානුපස්සනාව, පටිනිස්සග්ගානුපස්සනාවත් භාවනා කළ හැකි වේ. ඉහත පෙන්වූ සෑම අනුපස්සනාවකදීම පැහැදිළි විය යුත්තේ මේ සියල්ලම සංඛාර බවයි. ස්කන්ධ, ආයතන, විඤ්ඤාණ, ධාතු, පටිච්චසමුප්පාද ධර්මයේ මූල ධර්මය ආදී ලෙස භාවිතා කළ සෑම භාවනාවක්ම හොඳින් තේරුම් ගෙන භාවිතා කළ යුතු වේ.

අප මේ  සංසාර ගමන යන්නේ ප්‍රිය, අප්‍රිය සංඛාර කරමිනි. සංඛත හදා ගනිමිනි. සංඛාර යනු එකතු කර ගැනීම සඳහා කරන ක්‍රියාවයි. ඒ ක්‍රියාව අනිච්චයි, දුක්ඛයි, අනත්ථයි ලෙස අවබෝධ කරගත යුතු වේ. එමනිසා ක්‍රියාවට නොබැඳී උපාදානය නොකර, පටිනිස්සග්ගානු කිරීම කළ යුතු වේ. උපේක්ඛා තත්ත්වයට සිත පත්වන්නේ ඒ අනුවයි.

"සබ්බේ සංඛාරා අනිච්චාති
යදා පඤ්ඤාය පස්සති
අත නිබ්බින්දති දුක්ඛේ
ඒස මග්ගෝ විසුද්ධියා"

"නිච්ච" "අනිච්ච" දෙකම නිවැරදිවම තේරුම් ගත හැකි වූවානම්, "සබ්බේ සංඛාරා අනිච්චාති" යනුවෙන් අදහස්  කළ දේ පිළිබඳව අවබෝධ විය යුතුයි. මේ කාරණය තේරුම් ගැනීම බුද්ධ ධර්මයේ ත්‍රිලක්ඛණය තේරුම් ගැනීමයි. "සබ්බේ සංඛාරා අනිච්චාති" පිළිබඳ නිවැරදිව  විග්‍රහ කර සංඛාර පිළිබඳව නිවැරදිව හඳුනා ගත යුතු වේ. ආපෝ, තේජෝ, වායෝ, පඨවි යන ධාතු වශයෙන් හෝ රූප, ශබ්ද, ගඳ, සුවඳ, ආදී කොට ඇත්තා වූ යම් සංඛත ධර්මයක් එකතු කර ගැනීමට තමාම කරන සියලුම ක්‍රියාකාරකම් අවිද්‍යා සංඛාර වේ. රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් අප එකතු කර ගන්නා සියලුම දේ සබ්බේ සංඛාරා වශයෙන් හඳුන්වයි. මෙසේ එකතු කර ගන්නා සියලුම දේවලට සිදුවන්නේ කුමක්ද? එනම් "අනිච්චාති" කැමැත්තට අනුව පැවැත්විය නොහැකි වීමයි. අප කොයි තරම් ආශාවකින්, උවමනාවකින් එකතු කරගැනීමට ක්‍රියා කළත් මේ එකතු කර ගන්නා සංඛත ධර්මයන් අපේ කැමැත්තට අනුව පැවැත්විය හැකි දේ නොවේ. "සබ්බේ සංඛාරා අනිච්චාති" යනු මේ විශ්වයේ ඇති සියලුම සංඛාර ධර්මයන් නොවේ. එහෙනම් මේ මොනවාද? මේ බොහොම සුළු කොටසකි. ප්‍රිය හා අප්‍රිය දේට පටිච්ච වීමෙන් ඇතිවන සංඛාර පමණක් මේ සුළු කොටසට අයත් වේ. ඒ  ඒ පුද්ගලයා කැමති දේ, එකතු කිරීමට කරන ක්‍රියා සංඛාර ලෙස අර්ථ ගැන්වේ.

පෘථග්ජන පුද්ගලයකු දවසේ පැය 24 පුරාම නිරතුරුව ම සංඛාර නොපවත්වති. සියයට 75කට, 80කට වැඩි ප්‍රමාණයක් කාර, ක්‍රියා සිත් පවත්වති. නමුත් පෘථග්ජන පුද්ගලයකු හැම විටම සංඛාරත් ක්‍රියාත්මක කරති. නිතරම අවිද්‍යා සංඛාරයක් කරන්නේ

යමකට පටිඉච්ච වී ප්‍රිය රූප, ප්‍රිය හඬ, ප්‍රිය ගඳ සුවඳ, ප්‍රිය රස, ප්‍රිය මතක සටහන් යන මේවායින් යමක් එකතු කිරීම සඳහායි. "සබ්බේ සංඛාරා අනිච්චාති" යන වචනවලින් අර්ථ ගැන්වෙන්නේ අවිද්‍යාවෙන් කරන ක්‍රියා පමණි.

අපි බලා සිටින විට අනන්ත අප්‍රමාණ රූප දකිමු. ඒවා රූප සංඛාර සිත් නොවේ. ඒවා කාර සිත් ලෙස හඳුන්වයි. අප යමක් සිතින් එකතු කිරීමට ක්‍රියා නොකරනවා නම් එතැන පවතින්නේ කාර සිත් මිස සංඛාර සිත් නොවෙයි. එකතු නොකරන නිසා ඒවා සංඛාර නොවේ. අවිද්‍යා සංඛාර යනු එකතු කිරීමට කරන සීමා සහිත ක්‍රියා කොටසක් පමණි. එකතු කිරීම සඳහා කරනු ලබන සෑම ක්‍රියාවක්ම කරනු ලබන්නේ අන්ත දෙකෙන් එකකට අන්තගාමී ලෙසින් බැඳීමෙනි. එනම් ප්‍රිය හෝ අප්‍රිය අන්තයට බැඳීමෙනි. "සබ්බේ සංඛාරා අනිච්චාති, යථා පඤ්ඤාය පස්සති" යන්න ප්‍රඥාවෙන් යථාපරිදි තේරුම් ගෙන මෙහි තිබෙන "නිච්ච" බව ප්‍රඥාවෙන් ප්‍රත්‍යක්ෂ කර ගතහොත් අවිද්‍යා සංඛාරයක පැටලී එකතු කරන්නට කරනු ලබන ක්‍රියාවෙන් වැළකුණොත් එතැනදී "අථ නිබ්බින්දති දුක්ඛේ" යන අර්ථයෙන් සදාකාලිකවම දුකෙන් අත මිදෙන්නටත් හැකිවේ. "ඒසමග්ගෝ විසුද්ධියා" එනම් නිවන අවබෝධ කර ගැනීමටත් චතු අරිය සත්‍යය අවබෝධ කර ගැනීමටත් මඟපාදා ගත හැකියි. ඉතාම පිරිසිදුව, පැහැදිළිව බුදුරජාණන්වහන්සේ මේ කරුණු දේශණා කර වදාළහ. ඉතාම සරළ, ඉතාම සුමට මෙම ධර්මතාවය ඕනෑම කෙනෙකුට මනසින් කල්පනා කර තේරුම් ගත හැකියි.

මේ පැහැදිළි ධර්මය අද භාවිතයෙන් ඉවත් වී වැසී පවතින්නේ ඇයි? මේ ගැන නම් සෑම කෙනෙකුමත් කල්පනා කර බැලිය යුතුයි. ඇයි මේ ධර්මය මෙහෙම වැහුණේ? මේ වැහීමට, යටපත් වීමට මූලික කරුණු දෙකක් බලපා තිබේ. අද භාවනා කරන පුද්ගලයින් නිච්ච සංඥාව ප්‍රහාණය කිරීමට අනිච්චානුපස්සනාවක් භාවනා නොකරයි. නිච්ච සංඥාව වෙනුවට අද භාවිතා වන්නේ "නිත්‍ය" යන වැරදි සංඥාවයි. "අනිච්ච" සංඥාව වෙනුවට "අනිත්‍ය" සංඥාවයි. "නිච්ච" යන වචනය සිංහලට පරිවර්තනය කිරීමේදී නිත්‍ය යනුවෙන් පරිවර්තනය කරන ලදී. "අනිච්ච" යන්න "අනිත්‍ය" යනුවෙන් පරිවර්තනය විය. මේ පරිවර්තනය වැරදි ලෙසින් කිරීම නිසා බුද්ධ භාෂිතයේ අර්ථය, ධර්මය විකෘති විය. අපි උදාහරණයකින් මෙය පැහැදිළි කර ගනිමු. අද සවස 6 ට ඉර බසිනවාය යන්න නිත්‍යයි. සියල්ලන්ටම එය පැහැදිළියි. අනිත්‍යානුපස්සනාව අවුරුදු සීයක් නොව ආත්ම සීයක් භාවනා කළත් මේ "නිත්‍ය" සංඥාව ඉවත් කිරීමට අපට නොහැකියි. නමුත් අපේ හිතේ යම්කිසි රූපයකට කැමැත්තක් ඇති වී ඒ රූපය ගැන නිච්ච බවක් ඇති වී නම් අනිච්චානුපස්සනාව විනාඩි 5 ක් භාවනා කළවිට අපට එය සිතින් ඉවත් කිරීමට නොහැකිද? හැකියි. කළ නොහැකි දෙයක් කිරීම බුදුරජාණන්වහන්සේ කාටවත්ම අනු දැන වදාළේ නැත. නමුත් ඒ නොහැකි දේම කිරීම අද පවතින භාවනා ක්‍රමවල අඩංගු වේ. භාවනා මධ්‍යස්ථානවල කිරීමට උත්සාහ දරන්නේත් කළ නොහැකි දෙයක් කිරීමට වෙහෙසීමටයි. තමන්ගේ හිත හදාගැනීම වෙනුවට නියාම ධර්මයන් වෙනස් කිරීමට උත්සාහ දැරීම නිරර්ථක ප්‍රයත්නයකි.

මෙයට හේතුව ත්‍රිපිටකය සිංහලයට පරිවර්තනය කිරීමේදී සිදුවුණු වැරැද්දකි. පාලි ත්‍රිපිටකයේ "නිච්ච අනිච්ච" වශයෙන් ඉතාම පිරිසිදුව සඳහන් වචන දෙක සිංහල

පරිවර්තනය කිරීමේදී "නිත්‍ය අනිත්‍ය" ලෙස පරිවර්තනය කර පද විකෘත කර අර්ථ ගන්වා ඇත. "ජීවිතං අනියතං, මරණං නියතං" යන්න භාවනා කර මරණයෙන් බේරෙන්නට කාටවත්ම කෙසේවත් කළ නොහැක්කකි. නමුත් අප කැමති සේ සදාකල් පවතින මරණයක් නොවන ජීවිතයකුත් නැති බවත් නිවැරදිවම තේරුම් ගත්තොත් මේ නිච්ච, අනිච්ච තේරුම් ගත්තොත් මතු මරණයෙන් බේරෙන්නත් ඕනෑම කෙනෙකුට හැකියාව ඇත. නිච්ච, අනිච්ච යන මේ වචන දෙක "නිත්‍ය, අනිත්‍ය" ලෙස වරද්දා ගත් පසුව, තේරුම් ගත් පසුව, විකෘත කළ පසුව හැම තැනම වාගේ අද වැරදි භාවනාවන් කරනු දක්නට ලැබේ. නිත්‍ය අනිත්‍ය කිරීම නියාම ධර්ම වෙනස් කිරීමට උත්සාහ දැරීමකි.

මෙහිදී පරමාර්ථය නොදැකීම එහෙම නැත්නම් ආනාපානසතිය තුළින් ධර්මය නොදැකීම මෙයට මුල් වූ හේතුවයි. ආනාපානසතිය ධර්මානුකූලවම දුටුවා නම් අරිය ආනාපානසති භාවනාවේ මූලධර්මය තේරුම් ගත්තා නම් ඉවත් කළයුතු, බැහැර කළයුතු කොටස කුමක්ද, ආශ්‍රය කළයුතු, ඇතුළට ගතයුතු කොටස කුමක්ද යන්න ඕනෑම කෙනෙකුට තේරුම් ගත හැකියි. තමන්ගේ හිත හදාගැනීම මෙතන පරමාර්ථ ධර්මයයි. "නිච්ච අනිච්ච" පද දෙක "නිත්‍ය අනිත්‍ය" යනුවෙන් වරදවා තේරුම් ගැනීමත්, ඊට පසු "අත්ථ අනත්ථ" යන වචන දෙක "ආත්ම අනාත්ම" ලෙස වරදවා තේරුම් ගැනීමත්, වරදවා අර්ථ දැක්වීමත් නිසා නිවන් මග වැසුණි. මෙහිදී විග්‍රහ වන්නේ ආත්ම අනාත්ම සංකල්පයක් පිළිබඳව නොවෙයි. මෙතැන අදහස් වන්නේ මමත්වය එහෙම නැත්නම් තම්මතාව පිළිබඳවයි. බුදුරජාණන්වහන්සේ මේ පිළිබඳව විග්‍රහ කර ඇත්තේ "අසාරට්ඨේන අනත්ථා" යනුවෙනි. අසාර අර්ථයෙන් අනත්ථ විග්‍රහ කර වදාළහ. ඒ අනුව "සාරයක් ඇත" යනුවෙන් අර්ථ දැක්වීම අත්ථ ලෙස සැළකිය යුතුයි. එසේ නම් අනත්ථ යන වචනයට යෙදිය යුතු නිවැරදිම සිංහල වචනය "අනාථ" යන අර්ථයයි. මේ වචනයත් සියයට සියයක්ම නිවැරදි නොවේ. ඒ නිසා තව දුරටත් විග්‍රහ කරගත යුතුයි. කෙසේ වුවත් "අනාථ" යන වචනය අනික් සියලුම වචනවලට වඩා අර්ථය අතින් නිවැරදියි. ආත්ම, අනාත්ම යන වචන සහමුලින්ම වැරදි යෙදීමකි. බුදුපියාණන්වහන්සේ කිසිම දවසක ආත්ම, අනාත්ම වාදයක් ඉදිරිපත් නොකළහ. එය බැහැර කර ප්‍රතික්ෂේප කළහ. කිසිම විටක ඒ පිළිබඳව දේශණා කිරීමක් හෝ අනුමාන කිරීමක් හෝ නොකළහ. බුදු දහම ආත්ම වාදයෙන් තොරයි. අනාත්ම වාදයෙනුත් තොරයි.

වච්චගොත්ත සච්චක සූත්‍රයේදී බුදුපියාණන්වහන්සේ මේ ආත්ම, අනාත්ම සංකල්ප දෙකම පැහැදිළි ලෙසම ප්‍රතික්ෂේප කර වදාළහ. එතරම් පැහැදිළි ලෙස දේශණා කර ඇති දෙයක් මේ ත්‍රිපිටකය සිංහලට පරිවර්තනය කළ පුද්ගලයින් වැරදියට පරිවර්තනය කර ඉදිරිපත් කර ඇත. "නොබැඳීම" යන අර්ථය ගෙන දෙන "නිබ්බිදානුපස්සනාව" පිළිකුල යනුවෙන් පරිවර්තනය කර ඇත. මේ ආකාරයට වචන කීපයක්ම වැරදි ආකාරයට පරිවර්තනය කිරීම නිසාත්, ඒ වාගේම අරිය ආනාපානසතිය යන්න තේරුම් නොගැනීම නිසාත් මේ විපස්සනා භාවනාව විකෘත වී, බෞද්ධයන් අතර සහමුලින්ම භාවිතයෙන් ඉවත් වී ගිය බව හැම කෙනෙකුම හොඳින් තේරුම් ගත යුතුමයි.

විපස්සනා භාවනාවට අදාළව තවත් කරුණක් පැහැදිළි කර දිය යුතුයි. විපස්සනා භාවනාවක් වැඩීමට වඩා සමථ භාවනාවක් වැඩීම පහසුයි. සමථ භාවනාව තේරුම් ගැනීම

ඕනෑම කෙනෙකුට කළ හැකියි. කාමච්ඡන්ද, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්ච කුක්කුච්ච, විචිකිච්චා යන පංචනීවරණ සහමුලින්ම සිතෙන් ඉවත් කිරීම අපහසු කාර්යයකි. බුදුරජාණන්වහන්සේ දේශණාකර වදාළේ රූපාරම්මණයක්, සද්දාරම්මණයක්, ගන්ධාරම්මණයක්, රසාරම්මණයක්, පොට්ඨාබ්බාරම්මණයක්, ධම්මාරම්මණයක් සිතට අරමුණු වූ විට එය පළමුව සමථයකට පත්කර නොසිටියහොත් විපස්සනාවක් කළ නොහැකි බවයි. පළමුව සිත සමථයකට පත්කර ගැනීම කළ යුතුයි. තමන්ගේ හිතට අරමුණු වූ අරමුණ, නිමිත්ත මුලින්ම ආවර්ජනය කළ යුතුයි. බුදුරජාණන්වහන්සේ මෙය "ආවජ්ජන්තෝ" යනුවෙන් පෙන්වා වදාළහ. ඊට පසු ''ජානන්තෝ'' නිවැරදිව දැන ගැනීමත් "පජානන්තෝ" පිරිසිඳ දැක ගැනීමත් කළ යුතුයි. "පස්සති පහානත්තෝ" ප්‍රහාණය කළයුතු දෙයක්ද, නැත්නම් භාවිත කළයුතු දෙයක්ද යන්න තේරුම් ගත යුතුයි. මෙතැනදී බුදුරජාණන්වහන්සේ පියවර 14 ක් පිළිබඳව විස්තර කර වදාළහ. එම පියවර 14 නම්,

| | |
|---|---|
| ආවජ්ජනට්ඨෝ | - ආවර්ජනය කිරීමේ අර්ථයෙන් |
| විජානනට්ඨෝ | - නිවැරදිව දැන ගැනීමේ අර්ථයෙන් |
| පජානනට්ඨෝ | - පිරිසිඳ දැකගැනීමේ අර්ථයෙන් |
| පස්සනට්ඨෝ | - ප්‍රහාණය කළ යුතු ප්‍රහාණය කිරීම |
| පච්චවෙක්ඛනට්ඨෝ | - ප්‍රත්‍යවේක්ෂා නුවණින් |
| චිත්තං අධිට්ඨහන්තෝ | - සිතේ අධිෂ්ටානයෙන් |
| සද්ධාය අධිමුච්චන්තෝ | - සත්‍යාවබෝධය සඳහා ශ්‍රද්ධාවෙන් |
| වීරිය පග්ගන්හන්තෝ | - නොපසුබට වීර්යයෙන් |
| සතිං උප්පට්ඨපෙන්තෝ | - හේතුඵල දහමට ගළපා බැලීමෙන් |
| චිත්තං සමාදහන්තෝ | - චිත්ත සමාදානයෙන් |
| පඤ්ඤාය පජානනත්තෝ | - ප්‍රඥාවෙන් කළු ධර්ම බැහැර කිරීමෙන් |
| අභිඤ්ඤෙයියං | - අභිජානනත්තෝ - දැනීම |
| පරිඤ්ඤෙයියං - පරිජානනත්තෝ | - පිරිසිඳ දැකීම |
| භාවේතබ්බං ච - භාවෙන්තෝ | - භාවිතා කළයුතු දේ |
| පහාතබ්බං ච - පජහන්තෝ | - ප්‍රහාණය කළයුතු දේ |
| සච්ඡිකාතබ්බං ච - සච්ඡිකරොන්තෝ | - ලැබිය යුතු සත්‍යාවබෝධය |

විපස්සනා භාවනාවක් වඩන සෑම කෙනෙකුම මේ පියවර 14 ම නිවැරදිව දැනගත යුතුයි. හිතට අරමුණක් අරමුණු වූ විගසම පච්චවෙක්ඛන්තෝ යන ප්‍රත්‍යවේක්ෂා නුවණින් එය සළකා බලනතුරු ආවර්ජනය කළ යුතුයි. මෙතැනදී ද්වතාව, තිපරිවට්ටය, ත්‍රිලක්ඛණය පිළිබඳව දැනගැනීම අත්‍යාවශ්‍ය වේ. ද්වතාව ඔස්සේ අදාළ අරමුණ කළු ධර්මයක්ද, සුදු ධර්මයක් ද යන්න තෝරා බේරා දැනගෙන, සුදු ධර්මයක් නම් එය භාවිතා කළ යුතුයි. කළු ධර්මයක් නම් එය බැහැර කළ යුතුයි. විපස්සනා භාවනාව යනු මෙයයි. සිත සම්පූර්ණයෙන්ම පිරිසිදු වීමත් සමථයකට පත් වීමත් මෙම ක්‍රමවේදය අනුගමනය කිරීම මගින් සිදුවේ. නමුත් කළු ධර්මයකින් සිත කිළිටිවන අරමුණක් නම්, එතැනදී නිච්ච සංඥාවක් සිතේ හට ගනී. නිච්ච සංඥාව වැඩි දියුණු වුවහොත් පටිඉච්ච බව ඇති වී ඇලීමට, බැඳීමට, ගැටීමට සිත පත්විය හැකියි. විපස්සනා භාවනාවට නිමිත්ත කරගත යුත්තේ මෙයයි. එමනිසා මෙම නිමිත්ත හොඳින් ආවර්ජනය කර දැනගෙන (ජානතෝ),

පිරිසිඳ දැනගෙන (පජහන්තෝ) එය ප්‍රහාණය (පස්සතෝ) කළ යුතුයි. නැවත නැවතත් අදාළ අරමුණු ප්‍රත්‍යවේක්ෂා කර (පච්චවෙක්ඛිතබ්බං) තේරුම් ගැනීම කළ යුතුයි. මේ පෘථග්ජන හිතක පවතින විතක්ක විචාරයි. මේ විතක්ක විචාර අවිද්‍යා විතක්ක, විචාර නම් දිගින් දිගටම අදාළ අරමුණ පිළිබඳව සිතින් රෝද නොකර එම අරමුණ වහාම හඳුනා ගැනීමට උත්සාහ ගත යුතුයි. මෙසේ විතක්ක, විචාරයන් මතු වීමට හේතුව නිච්ච සංඥාවක් සිතේ උපදවා ගැනීම සඳහා සිත පටිඉච්ච වන බව තේරුම් ගෙන පටිඉච්ච වීම, අනිච්ච බවත්, දුක්ඛ බවත්, අනත්ථ බවත් වටහා ගැනීමයි. තවද ඉදිරි පියවරයන් වූ නිබ්බිදානුපස්සනාව, විරාගානුපස්සනාව, නිරෝධානුපස්සනාව, පටිනිස්සග්ගානු පස්සනාව පිළිබඳව මනාව තේරුම් ගෙන ත්‍රිලක්ඛණ භාවනාව වඩා විපස්සනා භාවනාව මගින් නිමිත්ත ඉවත් කර අදාළ නිමිත්ත නිසා යමකට බැඳීමෙන් හෝ ගැටීමෙන් හෝ ඉවත් වී උපේක්ඛාවට පත්විය යුතුයි.

මේ අවස්ථාවේදී හොඳින්ම තේරුම් ගතයුතු වන්නේ අනිච්චානුපස්සනාව, දුක්ඛානුපස්සනාව, අනත්ථානුපස්සනාව යන ත්‍රිලක්ඛණය පමණක් වැඩීමත් චතු අරිය සත්‍යය අවබෝධ වී, සෝවාන් මාර්ගයටත්, ඵලයටත් පත්වීමට හැකි බවයි. නමුත් සකෘදාගාමී, අනාගාමී මාර්ග හා ඵල සම්පූර්ණ කරගැනීම සඳහා නිබ්බිදා, විරාගා, නිරෝධා, පටිනිස්සග්ගා යන පියවරවල් සම්පූර්ණ කර ගත යුතුයි.

සමථ භාවනාවේදී නිදාන හේතුව මුළින්ම ගළවා දැමීම සිදුනොවේ. නමුත් විපස්සනා භාවනාවකදී හේතුව දැක එය සහමුළින්ම ගළවා ඉවත් කිරීම සිදුකරනු ලබයි. සමුච්ඡේද වශයෙන් ඉවත් කිරීම ප්‍රහාණය කිරීම යනු මෙයයි. මුල් අවස්ථාවේදී තදංගම වශයෙන් නැත්නම් විෂ්කම්භන වශයෙන්, සමථ තත්ත්වයට පත්වීම පමණක් සිදුවේ. නමුත් විපස්සනාවකදී හේතුව සමුච්ඡේද වශයෙන්ම එහෙම නැත්නම් සහමුළින්ම උදුරා, ඉවත් කිරීම සිදුවෙයි. පටිඉච්ච වුණේ නැත්නම් හිත කැමැත්තට බැඳුණේ නැත්නම් සිත අන්තගාමී ලෙස කිළිටි කරන රාගයට, ද්වේෂයට, මෝහයට පත්විය නොහැකියි. හේතුඵල ධර්මයට බහා ගළපා බලා මුල්ම හේතුව පළමුවන හේතුව ම ගළවා ඉවත් කිරීම විපස්සනා කිරීමයි. "නිච්ච" සංඥාව ප්‍රහාණය කිරීමෙන් සුඛ සංඥාව ඉවත් වේ. පටිනිස්සග්ගානුපස්සී වීමෙන් "උපාදානය" ඉවත් වී සමුච්ඡේද වශයෙන්ම කෙළෙස් මුල් ගැළවී යයි. විපස්සනා භාවනාවක් යනු තමන්ගේ හිතේ ඇති වන රාග, ද්වේෂ, මෝහ ගති තුනම සහමුළින්ම ගළවා ඉවත් කිරීමයි. විපස්සනා භාවනාව නිවැරදිව හඳුනාගැනීම මගින් නිවනට මඟ දැන ගැනීමටත් මාර්ගඵල අවබෝධ කර ගැනීමටත්, ප්‍රඥා විමුක්තියට පත් වීමටත්, ප්‍රඥා විමුක්තිය පිළිබඳව යථාපරිදි අවබෝධ වීමටත් උපකාරී වේ.

විපස්සනා භාවනාවක් වඩනවිට සද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥා යන පංච බලයන්ට, සතර සම්මප්පධන්වලට, සතර සතිපට්ඨානයට, සප්ත බොජ්ජංගයට, අෂ්ටාංගික මාර්ගයට ගළපා බැලිය යුතුයි. නමුත් "අනිච්ච, දුක්ඛ, අනත්ථ'' නිවැරදිව තේරුම් ගැනීම මගින් සත්තිස්බෝධිපාක්ෂික ධර්ම දැන හෝ නොදැන හෝ සම්පූර්ණ වීම සිදු වේ. ත්‍රිලක්ඛණය වැඩීමත් සමඟම නිච්ච, සුඛ, අත්ථ සංඥා ප්‍රහාණය වීමත්, නිවන් අවබෝධ වීමත්, මඟ ඵල ලබා ගැනීමත්, ප්‍රඥා විමුක්තියට පත්වීමත් සිදු කර ගත හැකියි.

නිච්ච, සුඛ, අත්ථ යන ගති තුන ඉවත්කර, බය කර, අස්කර ගැනීම පමණක් නිවනට උපකාර වන බව මතක තබා ගත යුතුයි. තමන්ගේ අධ්‍යාත්මය තුළින්ම, තමන් කෙරෙන්ම මතුවන කිළිටිවූ කැමැත්ත, විචිකිච්චාව තමන්ම ඉවත් කර ගැනීම හැර වෙනත් කෙනෙකුට අප වෙනුවෙන් මෙය කරදිය නොහැකියි. විඤ්ඤාණ චිත්තයෙන් මතුවන පටිඉච්චය එහෙම නැත්නම් නිච්ච සංඥාව නිසාම ඇතිවන විඤ්ඤාණය මේ සංසාර ගමනට හේතු වන එකම බලවේගයයි. මේ පටිඉච්චය ඉවත් වූ විට හිතක විඤ්ඤාණ ශක්තියක් ක්‍රියාත්මක වීම සිදු නොවේ. සමුදය ධර්මතාවක් බිහි නොවේ. රාගය, ද්වේෂය, මෝහය, ඉවත් වීමෙන් හිත සමථයටත් පත් වීමත් සමඟම ප්‍රඥා විමුක්තියටත් පත් වේ. නිවන් අවබෝධ කර ගැනීමෙන් අධ්‍යාත්මික වශයෙන් නිවුණු පුද්ගලයෙකු බවට පත්වේ.

"දීඝංවා අස්සසන්තෝ දීඝං අස්සසාමීති පජානාති, දීඝංවා පස්සසන්තො දීඝං පස්සසාමීති පජානාති''

"දීඝංවා" යන වචනය පිළිබඳව විග්‍රහ කළ යුතුයි. අප මේ දීර්ඝ සංසාරයේ මෙතෙක් කල් රැඳී සිටින්නට හේතුව කුමක්ද? දිගින් දිගටම මේ දිවිපෙවත පවත්වා ගෙන යැමට හේතුව කුමක්ද? දීර්ඝ වශයෙන් ආශ්‍රය කළා වූ නිච්ච සංඥාව, සුඛ සංඥාව, අත්ථ සංඥාව මේ දීර්ඝ සංසාර ගමනට හේතුවයි. සංසාර ගමන නවත්වා ගැනීමට අවශ්‍ය නම් නිච්ච, සුඛ, අත්ථ සංඥාවන් ප්‍රහාණය කළ යුතුයි. අනිච්ච, දුක්ඛ, අනත්ථ අනුපස්සනා කර ආශ්‍රය කිරීමත් කළ යුතුයි. ආනාපානසතිය යනුවෙන් විග්‍රහ කරන ලද්දේ මෙයයි. සංසාරයේ දිගින් දිගටම සිතින් පටිඉච්චවීම නිසා නිච්ච සංඥාවට බැඳීමෙන් මේ දීර්ඝ සංසාර ගමන නිමා නොවීය. දීර්ඝ වශයෙන්ම ආශ්‍රය කරන ලද මේ "නිච්ච" ගතිය ඉවත් කිරීමට අනිච්චානුපස්සනා භාවනාව කළ යුතුයි. පජානාති යන පිරිසිඳ දැකීම නොමැතිව විපස්සනාවත්, අනුපස්සනාවත් කළ නොහැකිය.

ඉහත දක්වන ලද ගාථා පාඨයේ ඊළඟ ගාථාව "රස්සංවා" යන්න යොදා අනාපානාසති සූත්‍රයේ ඉදිරිපත් කර ඇත. මෙහි "රස්සංවා" යනු අද අදම තමන් අසන, තේරුම් ගන්නා දේ නිසා තමාගේ හිතේ නොයෙකුත් පටිඉච්ච වීම ඇතිවීම විග්‍රහ කිරීමට භාවිතා කළ පදයකි. කැමැත්ත නිසාත්, නොකැමැත්ත නිසාත්, සිතේ උපදින තත්ත්වයන් සිතින් ම ඉවත්කළ යුතුයි. අද අද අප පටිඉච්ච වන රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණත් ඉවත් කළ යුතුයි. එම නිච්ච සංඥාව ඉවත් කිරීමට අනිච්චානුපස්සනාව වැඩිය යුතුයි. ආනාපානසති භාවනාවේ අස්ස පස්ස නැතිනම් ආශ්‍රය කළ යුතු දේ හා ප්‍රහාණය කළයුතු දේ යනුවෙන් විග්‍රහ කරන ලද්දේ මෙයයි.

ආනාපානසති භාවනාවේ "සබ්බකාය පටිසංවේදී" යන පද කිහිපය බුදුපියාණන් වහන්සේ පටිසම්භිදා මග්ගයේ ආනාපානසතිය විග්‍රහ කිරීමේදී සබ්බකාය පිළිබඳව විස්තර කර වදාළහ. කාය යනු - රූප කාය, චක්ඛු කාය, සෝත කාය, ශබ්ද කාය, ඝාණ කාය, ගන්ධ කාය, ජිව්හාකාය, රස කාය, කාය කාය, පොට්ඨබ්බ කාය, මනෝ කාය, ධම්ම කාය ලෙස විග්‍රහ වේ. පංචස්කන්ධයේද කායවල් පහක් පෙන්වා දිය හැක.

| | |
|---|---|
| රූප කාය | වේදනා කාය |
| සංඥා කාය | සංඛාර කාය |
| විඤ්ඤාණ කාය | |

මෙහි සඳහන් කළ සියලුම ක්‍රියාවන් සබ්බකාය ලෙස විස්තර වේ. යමක් එකතු කිරීම සඳහා කරන, කියන, හිතන සියලුම ක්‍රියා සබ්බකාය ලෙස හැඳින්වේ. ප්‍රිය වේදනාවකට හෝ අප්‍රිය වේදනාවකට හෝ සෑම විටම කෙනෙකු පටිසංවේදී වේ නම් එසේත් නැත්නම් බැඳේ නම් එය "සබ්බකාය පටිසංවේදී" යනුවෙන් විග්‍රහ වේ. අප ඒ බැඳීමත් අඩුකර ගැනීම අවශ්‍යයි. ''අස්සසිස්සාමීති සික්ඛති, පස්සසිස්සාමීති සික්ඛති'' යනු ශික්ෂණයෙන්, සංවරත්වයෙන් ප්‍රහාණය කළ යුතු කොටස හා ඇතුලු කර ගත යුතු කොටසයි. හිත සමථයකට පත්වීමත් සමඟ මේ සබ්බකාය පටිසංවේදී බව අපට නොදැනීම ''පස්සං භයං කාය සංඛාරං'' යන තත්ත්වයටත් පත් වේ.

මේ ආකාරයට විපස්සනා භාවනාවෙන්, කායානුපස්සනාව, වේදනානුපස්සනාව, චිත්තානුපස්සනාව, ධම්මානුපස්සනාව යන සියලු ආකාර වූ සංසිඳීම් සඳහා ආනාපාන සති සූත්‍රයේ ඇතුළත් පියවර 16ටම තමන්ම තම සිතින්ම පත්වේ. කායානුපස්සනාව, ධම්මානුපස්සනාව යනු කුමක්ද? සංසිඳීම සඳහා අප කළ යුත්තේ කුමක්ද? ඒ සඳහා අනිච්චානුපස්සනාව, දුක්ඛානුපස්සනාව, අනත්ථානුපස්සනාව, නිබ්බිදානුපස්සනාව, ධම්මානුපස්සනාව, ඛයානුපස්සනාව, විපරිණාමධම්මානුපස්සනාව, අනිමිත්තිනුපස්සනා ව, යන භාවනාවන් භාවිතා කළ යුතුයි.

බුදුපියාණන්වහන්සේ දේශණා කළ මේ බුද්ධ ධර්මය සුඤ්ඤතා දර්ශනයකි. මෙහි සුඤ්ඤ යන පදය හොඳින් තේරුම් ගත යුතුයි. දර්ශන දෙකක් පිළිබඳව විග්‍රහ වේ. අසඤ්ඤතා දර්ශනය හා සුඤ්ඤතා දර්ශනය යනු එම දර්ශන දෙකයි. මේ සුඤ්ඤතාවයට මුල් වන්නේ අනිමිත්තානුපස්සනාව, අප්පනිහිතානුපස්සනාව හා සුඤ්ඤතානුපස්සනාව යන සමාපත්ති තුනකි. මේවා සමාධි නොවේ. සමාපත්තියි. මේ සුඤ්ඤතා සමාපත්තිය යන්නෙහි තේරුම පැහැදිළිව වටහා ගත යුතුයි. මෙහිදී සිදුවන්නේ රාග, ද්වේෂ, මෝහ යන විඤ්ඤාණ ශක්තිය සුඤ්ඤ කිරීමයි. එහෙම නැත්නම් ඒ ශක්තිය සහමුළින්ම ඉවත් කිරීම සඳහා විපස්සනා භාවනාව භාවිතා කළ යුතුයි. නමුත් අනරිය භාවනාවේදී රාග, ද්වේෂ, මෝහ ශූන්‍ය වී, ඉවත් වී මුලින් ගළවා දැමීමක් සිදු නොවේ. ඒ වෙනුවට රාග, ද්වේෂ, මෝහ යටපත් වේ. යටපත් වීමත් සමඟම සිත් මත් වේ. මත් වූ නිසාම නේවසඤ්ඤානාසඤ්ඤා යන අනරිය ධ්‍යානයේ දී සිදුවන්නේ මේ විඤ්ඤාණ ශක්තිය සහමුළින් ශූන්‍යතා තත්ත්වයට පත්වීම නොවෙයි. සිත අසඤ්ඤ වීමයි. අසඤ්ඤ වීමේ දී සිදුවන්නේ රූප, වේදනා, සංඥා, සංඛාර වශයෙන් ලැබෙන සංඥා පවා නැතිව යාමයි.

අනරිය භාවනාවේ ප්‍රතිඵලයක් ලෙස ලබන්නා වූ ධ්‍යානයේ දී නේවසඤ්ඤා නාසඤ්ඤා තත්ත්වයේ දී සිදු වන්නේ මෙයයි. සංඥා පැමිණීමක් සිදුනොවන අතර සංඥා ලබා ගැනීමත් කළ නොහැකියි. නමුත් අරිය විපස්සනා භාවනාවේ දී සිදුවන්නේ විඤ්ඤාණ ශක්තිය, එහෙම නැත්නම් රාග, ද්වේෂ, මෝහ ශක්තිය ඉවත් වී සුඤ්ඤ තත්ත්වයට පත් වීමයි. බුදුරජාණන්වහන්සේ මේ විපස්සනා භාවනාවෙහි එනම් "දස අනුස්සති'' භාවනාවෙහි අවසානයට "දස සංයෝජනං පහීයන්තී ආසව අනුසයා ඛ්‍යායන්තී" යනුවෙන් විග්‍රහ කළ වදාළේ විපස්සනා භාවනාවේ පෙන් වූ පියවර 14 නිවැරදිව අනුගමනය කිරීම නිසා දස සංයෝජනම ප්‍රහාණය වී ආසව අනුසය සියල්ලමත් ඛය වී ආසවක්ඛයා ඥාණයෙන් ආසව ගැළවී සෝවාන් ආදී මාර්ගඵල වලටත් පත්වීම

පිළිබඳවයි. මෙහි ඛය යනු මුළින්ම ගළවා ඉවත් කිරීමයි.

ප්‍රඥා විමුක්තියත් විද්‍යා විමුක්තියත් සම්පූර්ණ වීමෙන් දස සංයෝජනයම ප්‍රහීණ වී සියලුම ආසව අනුසය සහමුළින්ම ඉවත් වීම සිදුවේ. නමුත් අරිය හෝ අනරිය හෝ සමථ භාවනාවෙන් දස සංයෝජනවලින් එකක් හෝ ප්‍රහීණ වීමක් සිදු නොවේ. ආසව අනුසය ඛය වීමකුත් සිදු නොවේ. එතැන දී සිදුවන්නේ සිත සමථ වීමත් ධ්‍යාන ලැබීමෙන් චේතෝ විමුක්තියට පත්වීමයි. ධ්‍යානයන් යනු නිවන නොවේ.

චේතෝ විමුක්තිය කිසිසේත්ම නිවන නොවේ. එය රජ්ජුරුවන්ට ඇති ආභරණයක් හා සමාන වේ. අරහතුන්වහන්සේ කෙනෙකුට යම්කිසි බලයක්, ඍර්ධි ප්‍රාතිහාර්යය පෑමේ ශක්තියක් ආදී වශයෙන් නොයෙකුත් ශක්තීන් ලැබිය හැකි වන්නේ චේතෝ විමුක්තිය ලබා ගැනීමෙන් පමණයි. ඒවා නිවනට නම් උපකාර වන දේ නොවේ. ඒවා පුණ්‍ය ශක්තිය අනුවම ලැබෙන ශක්තීන් ය. යම්කිසි අරහතුන්වහන්සේ කෙනෙකුට අභිඥා ලැබීමට, ඍර්ධි ප්‍රාතිහාර්යය පෑමට, අහසින් යෑමට, දිව්‍ය චක්ෂුසයක් ලැබීමට අවශ්‍ය නම් සමථ භාවනාව වඩා අෂ්ට සමාපත්තියටම පත්විය යුතුයි. සමථ භාවනාව වඩා පංචනීවරණ ධර්මයන්ගෙන් ම ඉවත් වී ඊට පසු පිළිවෙලින් අරිය ධ්‍යාන අටටම පත්විය හැකියි. එතැනදී අභිඥා ශක්තීන් ලබාගත හැකියි. චේතෝ විමුක්තිය, ධ්‍යාන, ඍර්ධි ප්‍රාතිහාර්යය පෑමේ හැකියාව ශක්තිය ලැබේ. එතනින් පසු විපස්සනා භාවනාවට මාරු වී මඟ ඵල ලබා ගැනීමෙන් නිවන සාක්ෂාත් කරගත හැකිය.

නමුත් මේ ක්‍රමය ඉතාමත්ම අපහසු වැඩපිළිවෙලකි. අතීත සංසාරයේ දී එවැනි සමථ භාවනාවක් වඩා හුරු පුරුදු කෙනෙකුට නම් මෙම ක්‍රමවේදය උචිතය. නමුත් අපේ මේ ජීවිත කාලය හුඟක් කෙටි නිසා ඒ කෙටි කාලය තුළ නිවන් දකින්නටත් වුවමනා හෙයින් සමථ භාවනාව යම්තාක් දුරට වඩා කාමච්ඡන්දයෙන් වෙන් වූ විගසම නිවන් අවබෝධයට අවශ්‍ය වන්නා වූ විපස්සනා භාවනාව වඩා මඟඵල ලබා ප්‍රඥා විමුක්තියට පත් විය හැකියි. අවුරුද්දකින් දෙකකින් වුවත් මෙම ක්‍රමය අනුගමනය කිරීමෙන් ප්‍රතිඵල ලබා ගත හැකිය. ඒ නිසා විපස්සනා භාවනාවම වැදගත් කොට ධ්‍යාන ලැබීමේ බලාපොරොත්තුවෙන් තොරව රාගක්ඛය, ද්වේෂක්ඛය, මෝහක්ඛය කිරීමේ එක ම පරමාර්ථයෙන් ත්‍රිලක්ඛණ භාවනාවේ ම යෙදීමට සැවොම අදිටන් කරගත යුතුයි.

## ධම්මානුධම්ම පටිපදාව - දෙවන පියවර

"අභිඤ්ඤෙය්‍යං අභිජානන්තෝ
පරිඤ්ඤෙය්‍යං පරිජානන්තෝ
පහාතබ්බං පජහන්තෝ
භාවේතබ්බං භාවෙන්තෝ
සච්ඡිකාතබ්බං සච්ඡිකරොන්තෝ

තස්ස තං මග්ග ආසේවතෝ, භාවයතෝ, බහුලීකරෝතෝ සංයෝජනා පහියන්තී, අනුසයා බ්‍යයන්තීහොන්තී ති"

ලෝකයේ උපතක් ලබන සත්ත්වයින්, භූතයින්, ප්‍රාණීන් අතුරින් මනුස්සයින් ලෙස හඳුන්වන කොටසට පමණක් සෘජුවම මේ උතුම් බුද්ධ ධර්මය අසා ශ්‍රවණය කර, අනුගමනය කර, අත්විඳ ගැනීමෙන් නිවන් අවබෝධය ලැබීමට හැකියාව හා ශක්තිය ලබා ඇත. මේ ශක්තිය, මනස, යෝනිසෝමනසිකරණීය ශක්තිය උපතින්ම සෑම මිනිසෙකුම ලබා තිබුණත් මේ ශක්තිය, හැකියාව නිවැරදි ආකාරයෙන් ප්‍රයෝජනයට ගැනීමට නම් කළ්‍යාණ මිත්‍රයෙකුගෙන්ම පරම පවිත්‍ර බුද්ධ ධර්මය අසා දැනගත යුතුයි. වෙනත් කිසිම සත්ත්වයෙකුට මනස උසස් තත්ත්වයකට පත් කර ගැනීමටත් මනීන්ද්‍රිය පාවිච්චි කිරීමටත් හැකියාවක් උපතින් ලබා නැත. "දෙවි දේවතාවන්ට මේ ශක්තිය ලැබී නැද්ද?'' යන්න ඔබට ගැටළුවක් පැන නැගිය හැකිය. දෙවි දේවතා කොටස්වලටත් මේ ශක්තිය හැකියාව ලබාගන්නට නම් ඒ අයටත් අරිය උත්තමයෙකු විසින් දේශණා කරනු ලබන ධර්මය ශ්‍රවණය කරන්නට හැකිසේ මනුස්සාවේශයක් ගත යුතුයි. එනම් මිනිහෙකුගේ කටහඬ අසා ගන්නට හැකි පරිදි කන් යොමු කර මනුස්සාවේශයට පත් විය යුතුයි. දෙවියන්ටත් ඒ ආකාර වූ ශක්තියක් හැකියාවක් ලැබී තිබේ. මේ හේතුව නිසා ධර්ම දේශණාවකදී පළමුව "සමන්තා චක්ඛවාලේසු" යනුවෙන් දෙවියන්ට ආරාධනා කරනු ලැබේ. ධම්මචක්කපවත්තන සූත්‍රයේ සඳහන් පහත ගාථා පේළි වලින් එය මනාව දැක ගත හැකියි.

"භුම්මානං දේවානං සද්දං සුත්වා
චාතුම්මහාරාජිකා දේවා සද්දමනුස්සාවේසුං"

ආදී වශයෙන් සෑම දෙව්ලොවකටම වෙන් වෙන් වශයෙන් ධර්මය ඇසීම සඳහා කන් යොමු කරන ලෙසට කරන ලද ආරාධනය "සද්දමනුස්සාවේසුං" යනුවෙන් දක්වා ඇත. බුදුපියාණන් වහන්සේ මනුස්ස කටහඬින් දේශණා කරනු ලබන ධර්මය ශ්‍රවණය කිරීමට හැකිවන ලෙසින් ආවේශය වෙනස් කර කන් යොමු කරන ලෙස දෙවියන්ට ආරාධනා කළ වදාළහ. එසේ නොවුණා නම් දෙවියන්ට ධර්මය අසා තේරුම් ගැනීමට නොහැකි වේ.

නමුත් සෑම මිනිසෙකුට ම උපතින් ම මනසක් ලැබී ඇති නිසා තවත් මිනිසෙකු ප්‍රකාශ කරන දේ අසා තේරුම් ගැනීමටත් අවබෝධ කරගැනීමටත් හැකියාවක් ශක්තියක් ලබා ඇත. "සෝතාවදානේ පඤ්ඤා සුතමයේ ඥාණං" යන සත්‍යාවබෝධය ලබා ගැනීමට

සෑම මිනිසෙකුට ම ශක්තිය හා හැකියාවක් උපතින්ම උරුම වී ඇත. එම නිසා අද මිනිසත් බවට පත් වී සිටින ඔබ සෑම මේ උතුම් ධර්මය අසන්නටත් අද වාසනාවන්ත වී සිටින බව තේරුම් ගත යුතුයි.

මේ මනුස්සකම ලැබුවේ අනන්ත අප්‍රමාණ කාලයකට පසුව විය හැකියි. මනුස්සයකු ලෙස උපත ලැබූ කෝටි ගණනක් අතුරෙන් බෝහෝම සුළු පිරිසකට පමණක්ම මේ උතුම් බුද්ධ ධර්මය අසා තේරුම් ගැනීමට අවස්ථාවක් ලැබී ඇත. එමනිසා මේ ලැබූ දුර්ලභ අවස්ථාව උපරිම ලෙසින් ප්‍රයෝජනයට ගෙන මනස යොමුකර මේ ධර්මය අසා දැන, අනුගමනය කිරීමට පසුබට නොවිය යුතුයි.

අසන, ශ්‍රවණය කරන ධර්මය යෝනිසෝමනසිකාරයෙන්ම විමර්ශණය කළ යුතුයි. කවුරු හෝ කියූ නිසා මේ සියල්ලම අන්ධ භක්තියෙන් පිළිගැනීම යෝනිසෝ මනසිකාරයෙන් ධර්මය දැන ගැනීම නොවේ. යෝනිසෝමනසිකරණය යනු අසා දැනගත් දේ මනසින් විමසා බැලීමයි. සති සම්පජානකාරී වීම යනුද යෝනිසෝමනසිකරණ ශක්තියයි. එනම් අසා දැනගත් ධර්ම කාරණා හේතුඵල දහමට බහා ගළපා බැලීමයි. යම් හේතුවක් නිසා පටිච්ච වීමක් සිදු වී නම් හේතුව අත්හැර නිදහස් විය යුතුයි. හේතුව නිදහස් වීමක් නම් නොඇලෙන, නොගැටෙන මුළා නොවන්නක් නම් එය භාවිතා කිරීම ආශ්‍රය කිරීම නිවනට මගයි. මේ අනුව සතිසම්පජානකාරී වන කෙනෙකුට සතර සතිපට්ඨානයෙහි ම පිහිටා සතර ඉරියව්වෙන් ම දිනයේ පැය විසිහතර පුරාම සතියෙන් ක්‍රියාකිරීමට හැකියාව ලැබේ.

කායනුපස්සනාව, වේදනානුපස්සනාව, චිත්තානුපස්සනාව, ධම්මානුපස්සනාව යනු ඇලෙන, ගැටෙන, මුළා වන ක්‍රියාවලින් වෙන් වී එවන් ක්‍රියා, සිතුවිලි, වදන් වලින් ඉවත් වී ඒවා ඉවසා, විමසා උපේක්ඛා සිතින් සළකා බැහැර කර සැනසීම ලබා ගැනීම මිස වෙනත් ප්‍රාතිහාර්යය පෑමක් නොවෙයි. මේ අනුව "සතියෙන් යුතුව ක්‍රියා කිරීම යනුවෙන් ධර්ම විග්‍රහයේ සඳහන් ප්‍රකාශය හොඳ සිහියෙන් ක්‍රියා කිරීම යන අදහසට වඩා බලවත් වෙනසක් සහිත ප්‍රකාශයක් බව සෑම කෙනෙකුම තේරුම් ගත යුතුයි. ඕනෑ ම කපටි, කෛරාටික වැරදි වැඩක් කිරීම සඳහාත් කෙනෙකුට හොඳ සිහියක් අවශ්‍ය වේ. නමුත් සතියෙහි පිහිටා හේතුඵල දෙකම දැන ක්‍රියාකරන කෙනෙකු තමාටම ආපසු අනිසි ප්‍රති විපාක උරුම වන පව්කාරකම්, ළාමක දේ කිසිවිටකත් නොකරයි. සතියෙහි පිහිටා ක්‍රියා කිරීමේ ධර්ම අර්ථය හොඳ සිහියෙන් ක්‍රියා කිරීම යන්නට වඩා ඉතා ගැඹුරු බව දැන ගත යුතුයි.

සතියෙහි පිහිටා ක්‍රියා කිරීමටත්, භාවනා කිරීමටත් "ද්වතා" ධර්මතාවය පිළිබඳව තරමක් දුරට හෝ අවබෝධයක් ඇති කර ගත යුතුමයි. සෑම සංඛතයකම සෑම සංකල්පනාවකම දෙපැත්තක් තිබේ. ප්‍රිය දේ, අප්‍රිය දේ, හොඳ දේ, නරක දේ , කළු ධර්ම, සුදු ධර්ම, පින් පව්, කුසල් අකුසල්, සුව අසුව, ලාභ අලාභ, දුක සැප ආදී වශයෙන් ඕනෑ ම දෙයක දෙපැත්තක් ඇති බව කුඩා දරුවකුට පවා තේරුම් ගත හැකි සරළ දෙයකි.

පෘථග්ජන පුද්ගලයෙකු නිතරම උනන්දු වන්නේ ප්‍රිය දේට ඇලීමට, අප්‍රිය දේ සමඟ

ගැටීමට, අප්‍රිය දේ ප්‍රතික්ෂේප කර ලාභ දේ ඇතුළට ගැනීම හා අලාභ දේ බැහැර කිරීම සඳහායි. හොඳයි යනුවෙන් තීරණය කරනු ලැබූ දේ සමඟ එකතු වීමටත් නරකයි යනුවෙන් තීරණය කළ දේ ඉවත් කිරීමටත් සැමවිටම ක්‍රියා කරති. එවන් පෘථග්ජන පුද්ගලයෙකු ප්‍රිය දෙයක් පිළිබඳව හේතුඵල ධර්මතාවය නොදකී. ප්‍රිය දේට ඇලීම නිසා තමන්ට උරුම වන ඵලවිපාක ගැන සොයා කටයුතු නොකරයි. බොහෝ විටම ප්‍රිය ගතිය යනු තමා තුළම ඇති සංසාර පුරුද්දක් බව පෘථග්ජන පුද්ගලයා නොදනී. ඒ ප්‍රිය බව විඤ්ඤාණය ආහාර සොයා ගැනීම සඳහා ම ඇටවූ උගුලකි. මේ බව තේරුම් ගත නොහැකි පෘථග්ජනයා මේ උගුලේ පැටලී මුළාවට පත් වී සංසාරයට බැඳෙති. ප්‍රිය දේම උපාදානය කරගැනීමට වෙහෙසෙති.

පෘථග්ජන පුද්ගලයෙකු ප්‍රිය, අප්‍රිය යනුවෙන් මිම්මක් තම තමන්ට ම පෞද්ගලික වූ මානයක් ඇති කරගෙන ක්‍රියා කරති. මේ මැනීම මේ මිම්ම සැමටම සර්ව සාධාරණ වූ පොදු මිම්මක් නොවේ. මේ මිම්ම තමන්ට රිසි ආකාරයට ගොඩනගා ගත් ප්‍රිය, ලාභ හොඳ මිම්මකි. ප්‍රිය දෙයට ඇලීම නිසා හෝ අප්‍රිය දෙයක් සමඟ ගැටීම නිසා හෝ තමාගේ ම චිත්තසංථානය තුළ සිදුවන විපර්යාසය, කිළිටි වීම ඔහුටම දැක ගැනීමට නොහැකි වීම නිසාම මෙවන් ප්‍රිය දේට  ඇලීමත්, අප්‍රිය දේ සමඟ ගැටීමත්, ප්‍රිය දේට ඇලීම නිසා තමන්ට උරුම වන ඵල විපාකයත්, තමන් උපාදානය කරගන්නා පංචඋපාදානස්කන්ධය තමාටම උරුම කර දෙන සංසාර බරත්, සංසාර බැම්මත්, සංසාර භයත් ඔහුටම දැක ගැනීමට නොහැකි වේ. හිතේ මුල් බැස ගෙන පවතින ප්‍රිය දේට ඇලීමේ ගතිය ඊට වඩා බලවත් වීම නිසාම තමාට උරුම වන ඵල විපාක නොපෙනී යයි.

මේ ගතිය හැඟීමට වහල් වී ක්‍රියා කිරීමයි. විචිකිච්චාවෙන් ක්‍රියා කිරීම යන පෘථග්ජන ගතිය, පටිඉච්ච වීම යනු මෙයයි. මේ පුරුද්ද තමන්ම අතීතයේ එකතු කරගත් තම චිත්තසංථානයේ ම ගබඩා කරගත් ගති පුරුදු වේ. මේ ගති පුරුදු වලට සැම පෘථග්ජන පුද්ගලයෙක්ම දෘෂ්ඨි ගත වීම නිසා නිරන්තරයෙන්ම ක්‍රියා කරනු ලබන්නේ අන්තවාදී දෘෂ්ඨියකිනි. තමන්ට යම් ලාභයක් ලබා ගැනීමේ අපේක්ෂාවෙනි. ඒ නිසාම සක්කාය දිට්ඨියටත්, මිච්ඡා දිට්ඨියටත් ඔහු පත් වේ. භව දෘෂ්ඨිය, විභව දෘෂ්ඨියටත් පත් වේ. මේ නිසා පෘථග්ජන ලෝකයා නිරතුරුවම තමාගේම ලෝකයක් නිර්මාණය කරගෙන ලෝකාස්වාදයක් විඳීමේ, ලෝකාස්වාද දෘෂ්ඨියකින් ක්‍රියා කරති. එනම් සැප හඹා යමින් දුකම උරුම කරගැනීමයි. මේ පරම සත්‍යය දැක ගන්නට නොහැකි වන ලෙසින් ඒ ඒ පුද්ගලයාගේම මනස ප්‍රිය, අප්‍රිය යන ගති වලින්, පුරුදු වලින් වැසී මුවහ වී පවතී. ප්‍රිය, අප්‍රිය යන අන්ත දෙකටම අන්තගාමී ලෙසින් නොඇලී, නොගැටී, උපේක්ඛා සිතින් ඉවසා, විමසා ක්‍රියාකරන්නට පුරුදු වීම, පුහුණු වීම නිවනට මඟය. ඇලීමෙන්, ගැටීමෙන් හා මුළාවෙන් මිදීමම නිවැරදි මඟයි. පිරිසිඳ දැක ක්‍රියා කිරීමට පුරුදු වීම සතියේ පිහිටා සති සම්පජානකාරීව ක්‍රියා කිරීම නිදහස් වීමේ මාර්ගයයි.

පෘථග්ජන ලෝකයාගේ දැනුම ඒ ඒ පුද්ගලයාගේ ම ප්‍රිය අප්‍රියතාවය අනුවම ඊටම සීමා වූ එකකි. ඒ නිසා කෙනෙක් යමක් පිළිගන්නේ හෝ තේරුම් ගන්නේ හෝ ඒ ගැන හොයන්නේ බලන්නේ හෝ එය ප්‍රිය මනාප දෙයක් නම් පමණි. ලෝකයේ වාසය කරන මිනිසුන් දෙදෙනෙකුට එකම දෙයක් පිළිබඳව දෙයාකාරයකින් දැකගන්නට, තේරුම් ගන්නට, අවබෝධ කරගන්නට මුල් වූ හේතුව මේ ප්‍රිය, අප්‍රිය, මනාප, අමනාප

යන අන්තවාදී ගති ලක්ෂණයි. හුරු පුරුදුයි. මේ ප්‍රිය අප්‍රිය, මනාප අමනාප යන අන්තවාදී ගති ලක්ෂණ නිසා කෙනෙකුගේ චිත්තසංථානය කිළිටි වේ. චිත්තසංථානය කිළිටිවීමත් සමගම මනස මුවහ වී මෝහය යනුවෙන් හඳුන්වනු ලබන ගති ලක්ෂණය නිසා මනසිකරණීය ශක්තිය දුර්වල වේ. එමනිසා ප්‍රියතාවයෙන් ඇලීමත්, අප්‍රියතාවයෙන් ගැටීමත් යන අන්ත දෙකම මනස මුවහ කරන කළු ධර්ම වේ. එවන් ගති කෙළෙස්, අකුසල් යනුවෙන් හඳුන්වනු ලබයි. සරළව විග්‍රහ කරනවා නම් මේ සියල්ල කුණු ගොඩකි.

මේ අනුව පෘථග්ජන ලෝකයා හොඳය, යහපත්ය, සැපය, සුවයක්ය යනුවෙන් හිතන සියලු දේ, ඒ ඒ පුද්ගලයාගේ සංසාර පුරුද්දට අනුව ඒ ඒ පුද්ගලයාට ම ආවේණික වූ ප්‍රිය දේ හා අප්‍රිය දේ මිස ඒවායෙහි කාටත් පොදු පරම සත්‍යයක් නැති බව තේරුම් ගත හැකියි. මේ ප්‍රිය දේට අන්තගාමී ලෙසින් ඇලීම නිසාත්, අප්‍රිය දේට අන්තගාමී ලෙසින් ගැටීම නිසාත් සෑම පෘථග්ජන පුද්ගලයෙක්ම සංසාර ගමන යාමට හේතු වන, උපකාර වන සමුදය, කර්ම බීජ තමන් ම සකස් කර ගනී. මේ අනුව රාග, ද්වේෂ, මෝහ යන ගති තුන එනම් කළු ධර්ම, කෙළෙස් නැත්නම් කුණු ගති මෙසේ කර්ම බීජ සකස් කිරීමට හේතු වේ.

එසේම රාගක්ඛය, ද්වේෂක්ඛය, මෝහක්ඛය කිරීම සඳහා උපකාර වන සියලුම ක්‍රියාකාරකම් කුසල් ධර්ම ලෙසත් ධර්මයේම විග්‍රහ වේ. විඤ්ඤාණ ශක්තියෙන්ම උපත ලැබූ සෑම කෙනෙක් ම කළු ධර්මත්, සුදු ධර්මත් ක්‍රියාත්මක කරමින් හොඳ නරක දෙයාකාරයේම ඵල විපාක උරුම කර ගනී. රාග, ද්වේෂ, මෝහ යන කළු ධර්ම සිතක උපත ලැබීමට මුල් වූ ක්‍රියාකාරකම් හා රාගක්ඛයට, ද්වේෂක්ඛයට, මෝහක්ඛයට හේතු වූ කුසල් ධර්ම සිතක උපත ලබන ක්‍රියාකාරකම් යන ද්වතාවයම නිවැරදිවත් පූර්ණ ලෙසත් තේරුම් ගැනීම චතු අරිය සත්‍යයයන් තේරුම් ගැනීමටත් උපකාර වේ.

සෑම පෘථග්ජන පුද්ගලයෙක්ම ජීවත් වීම යනුවෙන් අර්ථ ගන්වන්නේ කළු ධර්ම ඉපදීම සඳහා සංඛාර ක්‍රියාත්මක කරමින් කුණු එකතු කර ගැනීමේ ක්‍රියාවලියක නිරත වීමයි. එසේම සුදු ධර්මයන් ක්‍රියාත්මක කරමින් මෛත්‍රී, කරුණා, මුදිතා, උපේක්ඛා යන ගතිගුණාංග නිරාමිස, නිරාසව, වීතරාගී, වීතදේසී, වීතමෝහී යන ක්‍රියාකාරකම් වලත් නිරත වේ. තම මනස අපිරිසිදු නම් මෝහය, මුළාව සිතේ පවතී නම් කළු ධර්ම හා සුදු ධර්ම වෙන් කර තෝරා බේරා දැන හඳුනාගෙන, සංසාර දුකෙන් මිදී නිදහස් වන්නට දැනීමක් නැතිකම නිසා අතරමං වූවන් සේ සැප හඹා ගොස් දුකම උරුම කරගනී.

මනසේ ක්‍රියාවලිය යනුවෙන් හඳුන්වනු ලබන්නේ මැනීම, පෙරීම, තෝරා බේරා හොඳ නරක වෙන් කිරීමේ ශක්තියයි. මේ සඳහා මනායතනය උපකාර නොවන අතර "මනින්ද්‍රිය" උපකාර වන බව තේරුම් ගත යුතුයි. මනායතනය ලෙස මනස ක්‍රියාත්මක වනතාක් එතැනදීත් විඤ්ඤාණයට ම (ආහාර) කුණු එකතුකර ගැනීමටම මනායතනයත් උපකාර වේ. මනස ඉන්ද්‍රියයක් වශයෙන් ක්‍රියාත්මක වන විට පමණක්ම කෙනෙකුට යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කිරීමේ ශක්තිය හා හැකියාව ලැබේ.

එසේ නම් කළු ධර්ම එකතු කිරීම නිසා චිත්තසංථානය කිළිටි වන බවත්, මනස වැසී අඳුරු වී යන බවත් සුදු ධර්ම ඇතුළට ගැනීම නිසා චිත්තසංථානය පිරිසිදු වී මනස

ශක්තිමත් වන බවත් දකී. සුදු ධර්ම නිසා විඤ්ඤාණ ශක්තිය දුර්වල වේ. ප්‍රඥාව දියුණු වේ. අරහතුන්වහන්සේ කෙනෙකු තුළ විඤ්ඤාණ ශක්තියක් ක්‍රියාත්මක නොවේ. රාග, ද්වේෂ, මෝහ එකතු කරන ක්‍රියාකාරකම් එනම් අවිද්‍යා සංඛාර නොකරයි. පංචස්කන්ධය පරිහරණය කළත්, භාවිතා කළත් පංචස්කන්ධය උපාදානය කර නොගනී. ඒ අනුව අරහතුන්වහන්සේ කෙනෙකු ඇස, කන, නාසය, දිව, කය, මනස යන ඉන්ද්‍රියයන් හයම භාවිතා කළත් ඒ කිසි ම ඉන්ද්‍රියයක් ආයතනයක් බවට පත් කොට කුණු (රාග, ද්වේෂ, මෝහ) එකතු කරන්නට ක්‍රියා නොකරයි. අරහතුන්වහන්සේගේ ඉන්ද්‍රියයන් හයම සංවර වී ඇත.

අතීතයේ කවදා හෝ තමන් ම කළු ධර්ම තම චිත්තසංථානය ඇතුළට නොගත්තේ නම් අද තමන්ට ම විඤ්ඤාණයෙන් කටයුතු කරන කෙනෙකු ලෙස මෙවැනි උපතක් ලබා ජීවිතයක් ගත කළ නොහැක. අතීතයේ කවදා හෝ සුදු ධර්ම ස්වල්පයක් හෝ චිත්තසංතානය තුළට නොගත්තේ නම් අද තමන්ට ම මනසක් ලැබී මේ ආකාරයට මිනිසෙකු ලෙස මනීන්ද්‍රිය භාවිතා කිරීමේ හැකියාවද නොලබයි.

මේ අනුව කළු ධර්ම කළු ධර්ම ලෙසත්, සුදු ධර්ම සුදු ධර්ම ලෙසත් නිවැරදිව ම දැන හඳුනාගෙන, තෝරා බේරා ගැනීමේ ශක්තිය හැකියාව දියුණු කර ගැනීම ධර්මාවබෝධය ලැබීම යනුවෙන් හඳුන්වයි. කළ්‍යාණ මිත්‍රයෙක් යනු, කළ්‍යාණ මිත්‍ර සම්පත්තිය ලැබීම යනු කළු ධර්ම පෙන්වා දී ඒවා නසා දැමීමට, ප්‍රහාණය කිරීමට, නිවැරදිව මඟ කියා දිය හැකි උත්තමයාටයි. කළ්‍යාණ යනු "කළු නසන" යන අර්ථයයි. කළ්‍යාණ මිත්‍රයෙක් කළු ධර්ම කළු ධර්ම ලෙසත්, සුදු ධර්ම සුදු ධර්ම ලෙසත් පිරිසිදුව, පැහැදිළිව වෙන් කර පෙන්වා දී කළු ධර්ම ප්‍රහාණය කිරීමට හා සුදු ධර්ම ආශ්‍රය කිරීමටද නිවැරදිව මාර්ගය පෙන්වා දෙයි. ඒ නිසා කළ්‍යාණ මිත්‍රයකුගෙන් ම පරම පවිත්‍ර බුද්ධ ධර්මය ම අසා දැන, ඊට පසු මේ මඟ නිවැරදිව අනුගමනය කිරීමෙන් තමන්ගේ ම චිත්තසංතානය පිරිසිදු කර, ප්‍රඥාව උපදවා පහදා ගෙන, භව උදුරා දමන්නටත් ක්‍රියා කළ හැකි වේ.

යම් කිසි මිනිසකුගේ මනස අපිරිසිදු නම්, මනායතනය ක්‍රියාත්මක වේ නම් ඔහුට ද්වතාවය ධර්මය තේරුම් ගත නොහැක. කළු ධර්ම හා සුදු ධර්ම වෙන් කර තේරුම් ගැනීමට නොහැකි නිසා ඔහු කුණු එකතු කර තව තවත් චිත්තසංථානයේ කෙලෙස් පුරවා ගනී. කළු ධර්ම චිත්තසංථානය තුළට ගැනීමත් සමඟම මනස වැසී මෝහයෙන් මුළා වී සත්‍යාවබෝධය දුරස් වේ.

ප්‍රඥාව යනු චිත්තසංථානයේ ගබඩා වී පවතින කෙලෙස් කළු ධර්ම ප්‍රහාණය කර ඉවත් කිරීමේ හැකියාවයි. ප්‍රඥාව ක්‍රියාත්මක වීමට නම් පඤ්ඤා ඉන්ද්‍රියම ක්‍රියාත්මක විය යුතුයි. මනීන්ද්‍රිය ක්‍රියාත්මක වීමත් සමඟම ශ්‍රද්ධා ඉන්ද්‍රිය, වීර්ය ඉන්ද්‍රිය, සති ඉන්ද්‍රිය, සමාධි ඉන්ද්‍රිය යන ඉන්ද්‍රිය ධර්මයන් සිත තුළම ක්‍රියාත්මක වී පඤ්ඤා ඉන්ද්‍රිය ක්‍රියාත්මක වීමෙන් කෙලෙස් ප්‍රහාණය කර ආසව, අනුසය බය කර අස්කර දමන්නටත් ශක්තිය ලැබේ.

තමන්ගේම මනස කිළිටි කර ගැනීමෙන් මනස, මනීන්ද්‍රිය ලෙසින් ක්‍රියාත්මක නොවීමත්, එසේම මනස පිරිසිදු කිරීමෙන් මනීන්ද්‍රිය වාගේම පඤ්ඤා ඉන්ද්‍රියත්

ක්‍රියාත්මක කිරීමට හැකි ශක්තිය ලබා ගන්නෙත් තම තමන්මය. මනස මුවහ වූ තරමට චිත්තසංථානයේ කුණු ගබඩා වූ තරමට කෙනෙක් දුක් විඳියි. උපාදානය කර ගන්නා දේවල සීමාවක් ද නොදනී. ඒ උපාදානය කර ගන්නේ ම කුණු ගොඩවල් බවත් ඒවා සංසාර බරක් බවත් නොදනී. නොදකී.

කුණු ඉවත් කර අස්කර හිත නිදහස් වූ තරමට ම තමන්ටම නිදහස ලැබේ. තමන් දුක් විඳීමෙන් බැහැර වේ. සත්‍යාවබෝධය පූර්ණ වේ. ප්‍රඥාව ක්‍රියාත්මක වේ. ආසව, අනුසය බය කිරීමෙන් සංයෝජන ප්‍රහාණය වේ. නිවන යනු මෙසේ අතීතයේ තමන් එකතු කරගත් කෙළෙස් තමන්ගේම චිත්තසංථානයෙන් සේසයක්වත් ඉතිරි නොවන්නට ප්‍රහාණය කර ඉවත්කර දැමීමටයි. මෙතැනදී රාග විරාගයත්, අවිද්‍යා විරාගයත් යන දෙයාකාරයෙන්ම චිත්තසංථානය පිරිසිදු කරගත යුතුයි. චිත්තසංථානය කෙළෙස් රහිත වූ තත්ත්වයටම පිරිසිදු කර ගැනීමත් සමගම විඤ්ඤාණ ශක්තිය සුඤ්ඤත තත්ත්වයටත් ප්‍රඥා ශක්තිය පූර්ණ තත්ත්වයටත් පත්කර ගැනීම අරහත් ඵලයට පත්වීමයි. එසේනම් නිවන යනු රාගයෙන් තොර, ද්වේෂයෙන් තොර, මෝහයෙන් තොර, විවේක නිස්සිත, විරාග නිස්සිත, නිරෝධ නිස්සිත, වොස්සග්ග පරිණාමී සිතක් බවට තමාගේම සිත විමුක්තියට පත්කර ගැනීමයි, නිදහස් කර ගැනීමයි.

එසේනම් ඔබේම සිත ඔබම කිළිටි කර ගන්නේ ප්‍රිය දේට අන්තගාමී ලෙස ඇලීමෙනුත්, අප්‍රිය දේට අන්තගාමී ලෙසින් ගැටීමෙනුත් බිහි වන මුළා ගතිය නිසා ම බව නිවැරදිව ම තේරුම් ගත යුතුයි.

ඔබේ සිත තුළ තැති ගැනීමක්, චලනයක්, නොසන්සුන්කමක්, කම්පනයක් ඇති වන්නේ මේ මුළාව නිසාමයි. මුළාව නිසාම මානයක්, මමත්වයක් සිතක ඇති වේ. මානයෙන් සිත මත්වීම නිසා කෙනෙකු තුළ අවිද්‍යාව පහළ වේ. මානය නිසාම කෙනෙකු තුළ තණ්හාවද ඇති වේ. මේ "මම" යන දෘෂ්ඨිය මුළා දෘෂ්ඨියකි. මායාවකි. තමන්ම ඇත්ත ඇති සැටියෙන් තේරුම් නොගැනීම නිසා බිහි කරගත් මුළා දෘෂ්ඨියක් මිස මම, මාගේ, මාගේ ආත්මය යනුවෙන් අල්ලා ගැනීමට, දිගටම පවත්වා ගැනීමට හැකි කිසිම දෙයක් මේ පැවැත්ම තුළ නොපවතී. මේ පැවැත්ම යනු, ජීවත් වීම යනු තමන්ම කරන, කියන, හිතන හේතුඵල පරම්පරාවකට පටිච්ච වීම නිසා බිහි කරගන්නා ඵලවිපාක පරම්පරාවක් උරුම කරගැනීම හා ඒ ඵලවිපාක සංසාර යැයි යන මිථ්‍යා දෘෂ්ඨියෙන් උපාදානය කර ගැනීමයි.

සම්මා දෘෂ්ඨියට පත් වීම යනු මෙසේ එකතු කර ගැනීමේ ක්‍රියාවලිය දැක, හේතුඵල පරම්පරාවක් තමන්ම තම චිත්තසංථානයෙන්ම සකස් කර ගන්නා බව නිවැරදිවම දැක, ඒ හේතු පරම්පරාවටමත් පටිච්ච නොවී, ඉන් මිදී, ඵලයෙන්ද නිදහස් විය හැකි බව දැකීමයි. ඒ මිස හොඳ යහපත් දේ අල්ලා උපාදානය කර ගැනීමක් සම්මා දිට්ඨිය යන පදයෙන් ධර්මයේ අර්ථ නොගැන්වේ. හොඳ, නරක දෙක ම පවතින්නේ උපදින්නේ මේ හදාගත් ලෝකය තුළමයි. ඒ දෙකම ලෞකිකයි. එම නිසා මිච්ඡා දිට්ඨියෙන් මිදී ඊළඟට ලෞකික සම්මා දිට්ඨියෙනුත් මිදී ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් වීම නිවනයි.

ප්‍රිය දේකට බැඳුණු විට (පටිච්ච වීමෙන්) ප්‍රිය මනාපයැයි තමා තීරණය කරගත් දේ,

ඒ ප්‍රිය ආකාරයෙන්ම එක දිගටම පවත්වාගෙන යෑමේ අවශ්‍යතාවයක්, කැමැත්තක් සෑම පුද්ගලයෙකු තුළම හට ගනී. මේ ගතිය "නිච්ච සංඥාව" යන පදයෙන් විග්‍රහ වේ. මේ "නිච්ච" වීම තමන්ගේ සිතේම හටගත් "නිච්ච සංඥාවක්" නිසා සෑම පෘථග්ජන පුද්ගලයෙකුම තමන් ප්‍රිය කළ දේ තුළින්ම තම ඉන්ද්‍රියන් පිනවීමක් ද බලාපොරොත්තු වේ. මේ ආමිස සැපය, ආමිස සුවය, ඉන්ද්‍රිය පිනවීම යන ගති ලක්ෂණයයි. මේ වාගේ ඉන්ද්‍රියයන් පිනවීමෙන් යම් සැපයක් විඳගන්නට තමාම බලාපොරොත්තු වීමත් සමඟම, පෘථග්ජන පුද්ගලයෙකු තුළ මමත්වය ඇති වේ. "සැප විඳගන්නේ" "මමයි" යන අන්තවාදී දෘෂ්ඨියටත් පත් වේ.

> චක්ඛුංච පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං,
> තින්නං සංගති පස්සෝ,
> සං පස්ස ජා වේදනා
> වේදනා පච්චයා තණ්හා , උපාදාන, භව

ඇසට ප්‍රිය රූපයක් අරමුණු වීම නිසා ඇසත්, ප්‍රිය රූපයත් පටිච්ච වීමෙන් චක්ඛු විඤ්ඤාණයක් (රූපය උපාදානය කරගැනීමේ බලාපොරොත්තුවක්) සිතේ හටගනී. ඇස, ප්‍රිය රූපය හා ඒ රූපය පිළිබඳව ඇති වූ විඤ්ඤාණය, බලාපොරොත්තුව (තින්නං සංගති පස්සෝ) එකට ස්පර්ෂ වීම නිසා "සංපස්සජා වේදනා" යන ප්‍රිය වේදනාවක්, වින්දනයක් සිතේ ජනිත වේ. මෙවන් ප්‍රිය වේදනාවක් සිතේ ජනිත වීම යනු තමාගේම මන පිනවීමට, ඇස පිනවීමට එම රූපය උපාදානය කර ගැනීමේ අවශ්‍යතාවයක් බලවත් සේ සිතෙහිම හට ගැනීමයි. උපාදානය කර ගැනීමත් සමඟම "භව" තත්ත්වයට පත් වීමෙන් කර්ම බීජයක් "ප්‍රභව" වී තමන්ගේම චිත්තසංථානයෙහි කර්ම බීජය තැන්පත් වේ. එනම් සමුප්පාද ක්‍රියාවලියක් පූර්ණ වේ. සමුදය ධර්මයක් සැකසී බිහි වේ. සමුදය බිහි වීමෙන් පසු ජාති, ජරා, මරණ, ශෝක, පරිදේව, දුක් දොම්නස්, උපායාස ආදී සියල්ලමත් උරුමයෙන්ම තමන්ටම ලැබේ.

මුළින් සඳහන් කරන ලද ප්‍රිය රූපය දුටු විගසම ඒ අවස්ථාවේදීම ඒ රූපය අනිච්ච බව, දුක්ඛ බව, අනත්ථ බව සේම අසුභ බවත් අවබෝධ කරගැනීමෙන් ඒ ප්‍රිය රූපයේ නිච්ච බවක්, සුභ බවක් හෝ අත්ථ වශයෙන් ගැනීමට යමක් හෝ එහි නැති බව ප්‍රත්‍යක්ෂ කර පිරිසිඳ දැකීම සඳහා රූපං අනිච්චා, රූපං දුක්ඛා, රූපං අනත්ථා වශයෙන් ත්‍රිලක්ඛණ භාවනාව මෙනෙහි කළ යුතුයි. මේ ආකාරයට රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන පංචස්කන්ධයමත් නිච්චයි, සුඛයි, අත්ථයි, සුබයි යනුවෙන් මෙතෙක් සංසාරයේ ඇති කරගෙන පැවති වැරදි පුරුද්ද නිසාම සියලු මිනිසුන් සැප හඹා ගොස් දුකම උරුම කර ගන්නා බව හතර අවස්ථාවකදී පූර්ණ වශයෙන්ම දැක සත්‍යාවබෝධ කර ගැනීම අනිච්ච, දුක්ඛ, අනත්ථ දැකීමයි. මඟඵල ලබා නිවන් අවබෝධය සම්පූර්ණ කර ගැනීමයි.

බුද්ධ ධර්මය අසා දැන, අනුගමනය කර ධම්මානුධම්ම පටිපදාවෙහි නිරත වීම යනු අභ්‍යන්තර වශයෙන් මෙන් ම බාහිර වශයෙනුත් තමන්ම හදාගත් ලෝකය තමන්ටම අදාළව තමා තුළින්ම යථාපරිදි දැක ගැනීමයි. පිරිසිඳ දැකීමයි. යමෙක් ලෝකය යථාපරිදි දැක ගන්නට උත්සාහ කරයි නම් කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක යන තුන් ලෝකයම තමා තුළින්ම දැක ගත යුතුයි. තමන් ජීවත් වෙනවාය, උත්පත්තියක් ලබනවාය, කර්ම සකස් කරනවාය, පටිසන්ධි ලබනවාය, අභිනව තත්ත්වයන්ට පත් වෙනවාය, ජරා,

ව්‍යාධි, ශෝක පරිදේව ආදී ඵල විපාක ලබනවා යන මේ සියල්ලම තමාගේම ක්‍රියාකාරකම් නිසාම මිස ඉබේ සිදුවන දේ හෝ ඉබේ සිදු විය හැකි දේ හෝ නොවන බවත් නිවැරදිවම තේරුම් ගත යුතුයි.

තමා යනු කවුද? මේ ජීවත් වීම කියන්නේ කුමකටද? ජීවිත යන පදයේ අර්ථය, ධර්මය කුමක්ද? ලෝකය යනු කුමක්ද? මේ ලෝකය නිර්මාණය කර ගත්තේ කවුද? ඇයි මේ ලෝකයක් හැදුනේ? ලෝකය සාදා ගෙන මම යනුවෙන් කෙනෙක් උපදවා, බිහිකර ගත්තේ නැත්නම්, දුක් විඳින කෙනෙක් ඉන්නවාද? තමන් කිසිවිටෙකත් දුකක් බලාපොරොත්තු නොවුණත් නිරතුරුවම තමාට දුකම උරුම වන්නේ ඇයි? මේ ආදී තවත් දහසක් ප්‍රශ්න වලට තමා තුළින්ම තමන්ට ම පිළිතුරු සපයා ගත යුතුයි. මේ ප්‍රත්‍යක්ෂ අවබෝධය හතර අවස්ථාවකදී පූර්ණ වීම නිවනයි.

එදා බුදුපියාණන්වහන්සේ දේශණා කර වදාළ මුළු බුද්ධ ධර්මයම දේශණා කර වදාළේ පෘථග්ජන ලෝකයාට මේ කරුණු අවබෝධ කරගැනීමටත් මෙම මායා පැවැත්මෙහි සත්‍යය ප්‍රත්‍යක්ෂ කරගැනීමට මාර්ගයත් පෙන්වා දීමේ ඒකායන පරමාර්ථයෙනි. පෘථග්ජන ලෝකයා රූපය මමයි, මාගේ රූපයයි, රූපයෙන් තොර මමෙක් නැත, මගෙන් තොර ලෝකයක් නැත, රූපය තුළ ආත්මයක් ඇත ආදී වශයෙන් තමා පිළිබඳවම ඇති කරගත් වැරදි තීරණයක් නිසා "මම" යන මමත්ව සංකල්පයන් හිතෙන් මවාගෙන මම "නිච්ච" බවට පත් කර ගන්නට, මම සැප, සුව, සුබ විඳගන්නට හැමවිටම මුළා වූ දෘෂ්ඨියකින් ක්‍රියා කරයි. අවිද්‍යාවට මුළාවට හා තණ්හාවට හේතුව මෙයයි.

මේ සාදාගත් ශරීර කුඩුව තුළ ක්‍රියාත්මකව පවතින ගත, හිත යන කොටස් දෙක "වත" යනුවෙන් හඳුන්වයි. "වත" විවිධාකාරයෙන් බෙදා වෙන් කර, කොටස් නම් කර විභංග කර පෙන්වූ එකම විද්‍යාඥයා ලොව්තුරා බුදුපියාණන්වහන්සේයි. ගත, හිත යන නාම රූප කොටස් දෙක නැවත නැවතත් විභංග කර බෙදා බලන ආකාරයත් මේ හදාගත් ශරීර කුඩුවේත්, විඤ්ඤාණ ශක්තියේත් "අනිච්ච, දුක්ඛ, අනත්ථ" බව පිරිසිඳ දැක ගෙන මේ පැවැත්මෙහි ඇති නිස්සාර බව පසක්කර දැක ගැනීමට උපකාර වීම සඳහා ධර්මය දේශණා කර වදාළහ. විභංග යන පද දෙක වි=වෙන් කිරීම, භංග=බෙදා බැලීමයි. විභංග කිරීම යනු බෙදා බැලීමයි. "භගවත්" ගුණය යන්නත් විභංග කර බැලීමයි. පැවැත්මෙහි සත්‍යය අවබෝධ කර ගැනීමේ පහසුව තකාම ඉදිරිපත් කරන ලද්දේත් විභජ්ජ වාදයයි. බුද්ධ පිරිණිවීම සිදු වී වසර දෙසිය පනහක් පමණ කාලයක් ගතවන තුරු මේ උතුම් බුද්ධ ධර්මයට "විභජ්ජවාදය" ලෙසින්ද හැඳින්වූයේ මේ විභංග කර පෙන්වීම නිසයි. "අනිච්ච, දුක්ඛ, අනත්ථ, අසුබ" යන සංකල්ප පහසුවෙන්ම කෙනෙකුට තේරුම් ගත හැකි වන්නේ තම වතම බෙදා බලා ඇත්ත ඇති සැටියෙන් දැනගත් විට පමණකි.

ධම්මචක්කපවත්තන සූත්‍රයේ සඳහන් "ආචික්ඛනා දේශණා පඤ්ඤපනා, පට්ටපනා, විභජනා, විවරණා උත්තානිකම්මන්තී" යන පදවලින් ඉතාම පැහැදිළි ලෙසින් බුදුපියාණන් ලෝකයාට දේශණාකර පෙන්වා වදාළේ චතු අරිය සත්‍යයන්, ත්‍රිලක්ඛණය, අෂ්ටාංගික මාර්ගය මෙන්ම මජ්ඣිමා පටිපදාව ද අවබෝධ කර ගැනීමට මේ වත බෙදා භාග කර, විභජනය කර, විවරණා කර දැකීමට උපකාර වන නිසයි.

මේ ආකාරයට තමන්ගේම ගත, හිත බෙදා බලා තමන්ම එහි යථා තත්ත්වය පරිපූර්ණ වශයෙන් දැක බලා ගැනීමට නම් අවම වශයෙන් "භගවත්" ගුණයෙන් පෙන්වා වදාළ විභංග කිරීම යථාපරිදි අවබෝධ කර ගැනීමට අවශ්‍ය වන බෙදීම් කිහිපයක් හෝ දැනගත යුතුමයි. මේ පහත සඳහන් සියලු විභංග කිරීම් තමා තුළින්ම දැක ගන්නට උත්සාහ ගත යුතුයි.

1. ස්කන්ධ විභංගය - රූප ස්කන්ධය, වේදනා ස්කන්ධය, සංඥා ස්කන්ධය, සංඛාර ස්කන්ධය හා විඤ්ඤාණ ස්කන්ධය යනුවෙන් කොටස් පහකට බෙදා වෙන් කර දැක ගත යුතුයි. අවබෝධ කරගත යුතුයි.
2. පංචඋපාදානස්කන්ධ විභංගය - රූප උපාදානස්කන්ධය, වේදනා උපාදානස්කන්ධය, සංඥා උපාදානස්කන්ධය, සංඛාර උපාදානස්කන්ධය, විඤ්ඤාණ උපාදානස්කන්ධය. ස්කන්ධය හා උපාදානස්කන්ධය වෙන් කොට දැකිය යුතුයි.
3. ඉන්ද්‍රිය විභංගය - චක්ඛු ඉන්ද්‍රිය, සෝත ඉන්ද්‍රිය, ඝාණ ඉන්ද්‍රිය, ජිව්හා ඉන්ද්‍රිය, කාය ඉන්ද්‍රිය, මන ඉන්ද්‍රිය යන හය මනාව වෙන් කොට දැක ගත යුතුයි.
4. ආයතන විභංගය - චක්ඛායතනය, සෝතායතනය, ඝාණායතනය, ජිව්හායතනය, කායායතනය, මනායතනය වෙන් කොට දැකිය යුතුයි.
   ආයතන හා ඉන්ද්‍රියයන් වෙන් කොට දැකිය යුතුයි.
5. විඤ්ඤාණ විභංගය - චක්ඛු විඤ්ඤාණය, සෝත විඤ්ඤාණය, ඝාණ විඤ්ඤාණය, ජිව්හා විඤ්ඤාණය කාය විඤ්ඤාණය හා මනෝ විඤ්ඤාණය වෙන් කොට තේරුම් ගත යුතුයි.
6. රූප විභංගය - අතීත රූප, වර්තමාන රූප, අනාගත රූප, දුර රූප, ළඟ රූප, සියුම් රූප, ඝණ රූප, හීන රූප, ප්‍රණීත රූප, බාහිර රූප, අභ්‍යන්තර රූප ලෙස විභංග කර දැකිය යුතුයි.
7. රූප සංඥාව - රූප සංචේතනාව, රූප තණ්හාව, රූප විතක්ක, රූප විචාර වෙන් කොට දැන හඳුනා ගත යුතුයි. (මේ ආකාරයට ම වේදනා, සංඥා, සංඛාර හා විඤ්ඤාණත් බෙදා බලා දැන හඳුනාගත යුතුයි).
8. ධාතු විභංගය - පඨවි, ආපෝ, තේජෝ, වායෝ, ආකාස, විඤ්ඤාණ යන ධාතු හය විභංග කර දැන ගත යුතුයි.
9. කේසා, ලෝමා, නඛා, දන්තා ආදී රූප කොටස් 32 පිළිබඳව බෙදා බලා දැන තේරුම් ගත යුතුයි.
10. චක්ඛු ධාතු, රූප ධාතු, චක්ඛු විඤ්ඤාණ ධාතු ආදී කොට ඇති අට්ඨාරස ධාතු පිළිබඳවත් තමා තුළින් දැනගත යුතුයි.
11. චක්ඛු, සෝත, ඝාණ, ජිව්හා, කාය, මන යන ඉන්ද්‍රියයන් හයට අමතරව ජීවිතේන්ද්‍රිය, සද්ධා ඉන්ද්‍රිය, විරිය ඉන්ද්‍රිය, සති ඉන්ද්‍රිය, සමාධි ඉන්ද්‍රිය හා පඤ්ඤා ඉන්ද්‍රිය යන ඉන්ද්‍රිය ධර්ම ගැන ද දැන ගත යුතුයි. මේ සියලු ඉන්ද්‍රියයන් තමා තුළ ම පවතින බව දැකගත යුතුයි.

12. කාම ධාතු, රූප ධාතු, අරූප ධාතු, කාම භව, රූප භව, අරූප භව, සඤ්ඤී භව, අසඤ්ඤී භව, නේවසඤ්ඤානාසඤ්ඤා භව, ඒකවෝකාර භව, චතුවෝකාර භව හා පඤ්චවෝකාර භව පිළිබඳවත් දැනගත යුතුයි.

13. පළමු වන ධ්‍යානයේ සිට සතර වන ධ්‍යානය ගැනත් (රූප ධ්‍යාන) ආකාසඤ්ඤායතන, ආකිඤ්ඤායතන, විඤ්ඤාණඤ්ඤායතන හා නේවසඤ්ඤානාසඤ්ඤායතන යන අරූප ධ්‍යාන ගැනත් දැනගත යුතුයි. (අරිය ධ්‍යානයන් අරිය ධ්‍යානයන් ලෙසත්, අනරිය ධ්‍යානයන් අනරිය ධ්‍යානයන් ලෙසත් වෙන් කොට දැන ගත යුතුයි.)

14. ධ්‍යාන යනු චේතෝ විමුක්තිය බවත් රාග විරාගය බවත් දැනගත යුතුයි. මඟඵල යනු ප්‍රඥා විමුක්තිය, විද්‍යා විමුක්තිය බවත්, අවිද්‍යා විරාගය බවත්, දැනගත යුතුයි. මඟඵල ලැබීමෙන් සංයෝජන ප්‍රහාණය වී, ආසව අනුසය ධර්මයන් ඛය වී, ඉවත් වන බවත් දැන ගත යුතුයි. ධ්‍යානයන් ලබාගත් පමණින් ආසව අනුසය ධර්ම ඛය කිරීමට නොහැකි බවත් දැනගත යුතුයි.

15. අවිද්‍යා මූල පටිච්ච සමුප්පාද ධර්ම අවිද්‍යාව නිසා උපදින බව දැන ගත යුතුයි. සංඛාර, නාමරූප, සළායතන, ඵස්ස, වේදනා, තණ්හා, උපාදාන, භව, ජාති වශයෙන් තමාගේ ම සිත තුළ අවිද්‍යාව ක්‍රියාත්මක වන ආකාරය තමාම දැකගත යුතුයි.

16. අවිද්‍යා මූල සංඛාර ආදී සියලුම පටිච්ච සමුප්පාද අංගයන් තම සිත තුළදීම නිර් උදා කර, සමුදය ශක්තියක් උදා නොකර නිරෝධ කළ හැකි බවත් දැකිය යුතුයි.

17. කුසල මූල පටිච්චසමුප්පාද ධර්මය කුණු සළාහැර, සිතින් කෙළෙස් අස්කර දැමීමේදී කුසල මූල සංඛාර විඤ්ඤාණ, නාමරූප, සළායතන, ඵස්ස, වේදනා,පසාදෝ, අධිමොක්ඛෝ, භව, ජාති යන තත්ත්වයට සිත පත්වන ආකාරයත් දැක ගත යුතුයි.

18. පටි+ඉච්ච+සං+උප්පන්න යන ක්‍රියාවලිය තුළින් ඉච්ච (නිච්ච) ගළවා දැමීමට එහි අනිච්ච, දුක්ඛ, අනත්ථ බව පසක් කොට දැක දුක්ඛ අරිය සත්‍යය, සමුදය අරිය සත්‍යය, නිරෝධ අරිය සත්‍යය හා නිරෝධගාමී මාර්ග අරිය සත්‍යය ද තමාම  අවබෝධ කර ගත යුතුයි.

19. දුක්ඛං අභිඤ්ඤෙය්‍යං, දුක්ඛ සමුදයෝ අභිඤ්ඤෙය්‍යො, දුක්ඛ නිරෝධෝ අභිඤ්ඤෙය්‍යො, දුක්ඛ නිරෝධගාමිණි පටිපදා අභිඤ්ඤෙය්‍යා, දුක්ඛස්ස අස්සාදෝ අභිඤ්ඤෙය්‍යො දුක්ඛස්ස ආදීනවෝ අභිඤ්ඤෙය්‍යා, දුක්ඛස්ස නිස්සරණං අභිඤ්ඤෙය්‍යා පිළිබඳවද යථාපරිදි අවබෝධ කරගත යුතුයි. ( අභිඤ්ඤෙය්‍යා යනු උසස්ම  මට්ටමකින් සත්‍යාවබෝධය, පූර්ණාවබෝධය  ලැබීම යන අදහසයි.)

20. රූපං අභිඤ්ඤෙය්‍යං ... වේදනා අභිඤ්ඤෙය්‍යො........
සංඥා අභිඤ්ඤෙය්‍යා ....සංඛාර අභිඤ්ඤෙය්‍යො...
විඤ්ඤාණං අභිඤ්ඤෙය්‍යං ....රූප සමුදයෝ අභිඤ්ඤෙය්‍යො.......
වේදනා සමුදයෝ අභිඤ්ඤෙය්‍යො

රූපස්ස නිස්සරණං අභිඤ්ඤෙය්‍යං, වේදනස්ස නිස්සරණං අභිඤ්ඤෙය්‍යං, සංඥස්ස නිස්සරණං අභිඤ්ඤෙය්‍යං, සංඛාරස්ස නිස්සරණං අභිඤ්ඤෙය්‍යං,

විඤ්ඤාණස්ස නිස්සරණං අභිඤ්ඤෙය්‍යං (මේ ආකාරයට රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන පංචස්කන්ධයේම උපත (සමුදය), වැය, නිස්සරණය, නිරෝධය ප්‍රත්‍යක්ෂ කර දැක ගත යුතුයි.)

21. මේ ආකාරයටම රූප, වේදනා ආදී පංචස්කන්ධයෝත්, ආයතනත්, ඉන්ද්‍රියයනුත්, රූප, ශබ්ද, ගන්ධ, රස, පහස, ධම්ම යන බාහිර ආයතනයෝත් යන සියල්ලෙහි ම

1. අනිච්චානුපස්සනා අභිඤ්ඤෙය්‍යො
2. දුක්ඛානුපස්සනා අභිඤ්ඤෙය්‍යො
3. අනත්ථානුපස්සනා අභිඤ්ඤෙය්‍යො
4. නිබ්බිදානුපස්සනා අභිඤ්ඤෙය්‍යො
5. විරාගානුපස්සනා අභිඤ්ඤෙය්‍යො
6. නිරෝධානුපස්සනා අභිඤ්ඤෙය්‍යො
7. පටිනිස්සග්ගානුපස්සනා අභිඤ්ඤෙය්‍යො

මේ විපස්සනා භාවනාවයි. අනුපස්සනා භාවනාවයි. තමා තුළින්ම උපත ලබන පංචඋපාදානස්කන්ධයම පිළිබඳව මේ ආකාරයට තමන් අනුපස්සනා කරමින් ත්‍රිලක්ඛණ භාවනාව ප්‍රත්‍යක්ෂ වන තුරුම භාවනා කළ යුතුයි. උපාදානය බැහැර කළ හැක්කේ "නිච්ච, සුඛ, අත්ථ " සංඥා ප්‍රහාණය කිරීමෙන් පමණි.

22. රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ ආදී අරමුණුවලට පටිච්ච වූ චක්ඛු, සෝත, සාණ, ජිව්හා, කාය, මනෝ ආයතනවලින් සමුදය උපදී. (සං උපත ලබයි) උදය වෙයි. මේ ආකාරයට බිහි වන සමුදය

1. උප්පාදෝ අභිඤ්ඤෙය්‍යො (අවබෝධ කරගත යුතුයි)
2. පවත්තං අභිඤ්ඤෙය්‍යං
3. නිමිත්තං අභිඤ්ඤෙය්‍යං
4. ආයුහනා අභිඤ්ඤෙය්‍යො (කර්ම සකස් වීම)
5. පටිසන්ධිං අභිඤ්ඤෙය්‍යො
6. ගති අභිඤ්ඤෙය්‍යො
7. නිබ්බත්ති අභිඤ්ඤෙය්‍යො (අභිනව තත්ත්වය)
8. උපපත්ති අභිඤ්ඤෙය්‍යො (නොකඩවා උපතක් වීම)
9. ජාති,ජරා,ව්‍යාධි,මරණං, සෝක, පරිදේවෝ, උපායාසෝ අභිඤ්ඤෙය්‍යො

23. මේ ආකාරයට ම අරමුණුවලට (රූප ආදී) ඇස ආදී ඉන්ද්‍රියයන් පටිච්ච නොවුවොත් පටිච්ච වීම නිරෝධ කළහොත්,

1. අනුප්පාදෝ අභිඤ්ඤෙය්‍යො
2. අපවත්තං අභිඤ්ඤෙය්‍යං
3. අනිමිත්තං අභිඤ්ඤෙය්‍යං
4. අනායුහනා අභිඤ්ඤෙය්‍යො
5. අප්පටිසංධි අභිඤ්ඤෙය්‍යො

6. අගති අභිඤ්ඤෙයො

7. අනිබ්බත්ති අභිඤ්ඤෙයො

8. අනුපපත්ති අභිඤ්ඤෙයො

9. අජාති, අජරා, අව්‍යාධි, අමරණං, අසොකො, අපරිදෙවො, අනුපායාසො අභිඤ්ඤෙයො. අභිඤ්ඤෙයො යනු තම සිතින් ම බිහිවෙන තත්ත්වයන් ප්‍රත්‍යක්ෂ කර ඇත්ත ඇති සැටියෙන් දැක ගැනීමේ උසස්ම යථාවබෝධයයි.

24. උප්පාදො දුක්ඛං - අනුප්පාදො සුඛන්ති අභිඤ්ඤෙය්‍යං
පවත්තං දුක්ඛං - අපවත්තං සුඛන්ති අභිඤ්ඤෙය්‍යං
නිමිත්තං දුක්ඛං - අනිමිත්තං සුඛන්ති අභිඤ්ඤෙය්‍යං
ආයුහනා දුක්ඛං - අනායුහනා සුඛන්ති අභිඤ්ඤෙය්‍යං
පටිසන්ධි දුක්ඛං - අප්පටිසන්ධි සුඛන්ති අභිඤ්ඤෙය්‍යං
ගති දුක්ඛං - අගති සුඛන්ති අභිඤ්ඤෙය්‍යං
නිබ්බත්ති දුක්ඛං - අනිබ්බත්ති සුඛන්ති අභිඤ්ඤෙය්‍යං (අභිනව)
උපපත්ති දුක්ඛං - අනුපපත්ති සුඛන්ති අභිඤ්ඤෙය්‍යං
ජාති, ජරා .... දුක්ඛං - අජාති, අජරා, අමරණං, අසොකො සුඛන්ති අභිඤ්ඤෙය්‍යං (ද්වතාවය පිරිසිඳ දැකීමයි)

25. උප්පාදො භයං - අනුප්පාදො ඛෙමන්ති අභිඤ්ඤෙය්‍යං
පවත්තං භයං - අපවත්තං ඛෙමන්ති අභිඤ්ඤෙය්‍යං
නිමිත්තං භයං - අනිමිත්තං ඛෙමන්ති අභිඤ්ඤෙය්‍යං
ආයුහනා භයං - අනායුහනා ඛෙමන්ති අභිඤ්ඤෙය්‍යං
පටිසන්ධි භයං - අප්පටිසන්ධි ඛෙමන්ති අභිඤ්ඤෙය්‍යං
ගති භයං - අගති ඛෙමන්ති අභිඤ්ඤෙය්‍යං
නිබ්බත්ති භයං - අනිබ්බත්ති ඛෙමන්ති අභිඤ්ඤෙය්‍යං
උපපත්ති භයං - අනුපපත්ති ඛෙමන්ති අභිඤ්ඤෙය්‍යං
ජාති, ජරා, ව්‍යාධි, මරණං භයං - අජාති, අජරා, අව්‍යාධි, අමරණං ඛේමන්ති අභිඤ්ඤෙය්‍යං
(ඛෙමන්ති යනු සහනයක්, අභය තත්ත්වයකි.)

26. උප්පාදො සාමිසං - අනුප්පාදො නිරාමිසන්ති අභිඤ්ඤෙය්‍යං
පවත්තං සාමිසං - අපවත්තං නිරාමිසන්ති අභිඤ්ඤෙය්‍යං
නිමිත්තං සාමිසං - අනිමිත්තං නිරාමිසන්ති අභිඤ්ඤෙය්‍යං
ආයුහනා සාමිසං - අනායුහනා නිරාමිසන්ති අභිඤ්ඤෙය්‍යං
පටිසන්ධි සාමිසං - අප්පටිසන්ධි නිරාමිසන්ති අභිඤ්ඤෙය්‍යං
ගති සාමිසං - අගති නිරාමිසන්ති අභිඤ්ඤෙය්‍යං
නිබ්බත්ති සාමිසං - අනිබ්බත්ති නිරාමිසන්ති අභිඤ්ඤෙය්‍යං
උපපත්ති සාමිසං - අනුපපත්ති නිරාමිසන්ති අභිඤ්ඤෙය්‍යං

| | |
|---|---|
| ජාති, ජරා, ව්‍යාධි, මරණං සාමිසං | - අජාති, අජරා, අව්‍යාධි, අමරණං නිරාමිසන්ති අභිඤ්ඤෙය්‍යං |

සාමිසං යනු ආමිස බිහි කරන, සමුදය බිහි කරන ගතිගුණ යන අදහසයි. මේ අනුව රාග, ද්වේෂ, මෝහ මෙන්ම කාමාසව, භවාසව, දිට්ඨාසව බිහි කිරීමට මේ ආමිස හේතුවේ.

| | | |
|---|---|---|
| 27. | උප්පාදෝ සංඛාරා | - අනුප්පාදෝ නිබ්බානන්ති අභිඤ්ඤෙය්‍යං |
| | පවත්තං සංඛාරා | - අපවත්තං නිබ්බානන්ති අභිඤ්ඤෙය්‍යං |
| | නිමිත්තං සංඛාරා | - අනිමිත්තං නිබ්බානන්ති අභිඤ්ඤෙය්‍යං |
| | ආයූහනා සංඛාරා | - අනායූහනා නිබ්බානන්ති අභිඤ්ඤෙය්‍යං |
| | පටිසන්ධි සංඛාරා | - අප්පටිසන්ධි නිබ්බානන්ති අභිඤ්ඤෙය්‍යං |
| | ගති සංඛාරා | - අගති නිබ්බානන්ති අභිඤ්ඤෙය්‍යං |
| | නිබ්බත්ති සංඛාරා | - අනිබ්බත්ති නිබ්බානන්ති අභිඤ්ඤෙය්‍යං |
| | උපපත්ති සංඛාරා | - අනුපපත්ති නිබ්බානන්ති අභිඤ්ඤෙය්‍යං |
| | ජාති, ජරා, ව්‍යාධි, මරණං | - අජාති, අජරා, අව්‍යාධි, අමරණං, අසොකො, |
| | සංඛාරා | - අපරිදේවො, අනුපායාසො නිබ්බානන්ති අභිඤ්ඤෙය්‍යං |

යම් කෙනෙකු යෝනිසෝමනසිකාරයෙන් මේ කරුණු අනුපස්සනා කර විපස්සනා කර තමා ගැනම අවබෝධය පූර්ණ කර ගතහොත් "අභිඤ්ඤෙය්‍යං'' තත්ත්වයට පත් වෙනු ඇත. අවබෝධය ප්‍රත්‍යක්ෂ ලෙසින් දැක සත්‍යාවබෝධය බවට පත් කර ගතහොත් අභිඤ්ඤෙය්‍යං යන උසස් තත්ත්වයට පත්වෙනු ඇත. අවබෝධය පරිපූර්ණ කර පරිපූර්ණ සත්‍යාවබෝධය ලබා ගැනීම නිසා "අභිඤ්ඤෙයියං, අභිජානනත්තෝ" යන තත්ත්වයට ම පත්වීම ද සිදු වේ.

මේ ආකාරයට තමා තුළම ක්‍රියාත්මක වන හේතුඵල ධර්ම ක්‍රියාවලිය පිරිසිඳ දැක ඒ පිළිබඳව පූර්ණාවබෝධයක් ලැබූ විට,

| | | |
|---|---|---|
| අභිඤ්ඤාය | - | අභිඤ්ඤාතට්ඨෝ (උසස් අවබෝධය) |
| පරිඤ්ඤාය | - | තීරණට්ඨෝ (පිරිසිඳ දැක තීරණ ගැනීම) |
| පහානස්ස | - | පරිච්චාගට්ඨෝ (ප්‍රහාණය කළයුතු දේ අත්හැරීම) |
| භාවනාය | - | ඒකරසට්ඨෝ (ඒකාග්ග සිතින් භාවනා කිරීම) |
| සච්ඡිකිරියාය | - | ඵස්සනට්ඨෝ |

යන පූර්ණාවබෝධය ලැබූ පුද්ගලයා චතු අරිය සත්‍යයන් පරිපූර්ණ ලෙසින්ම අවබෝධ කරගත් කෙනකු බවටත් පත් වේ. ආසව හා අනුසය ධර්ම ඛය කර (උදුරා, ගළවා දමා) ඉවත් කිරීමට අවශ්‍ය ආසවක්ඛයා ඥාණය ද ලබා ගනී. අනුසය ධර්මයන් ඛයාහොන්ති, සංයෝජනා පහියන්තී යනුවෙන් පෙන්වා වදාළේ ආසවක්ඛයා ඥාණය ලැබීමෙන් ආසව ධර්ම ගළවා ඉවත් කර, අනුසය ධර්මයන් ද ගළවා ඉවත් කර දමා, චිත්තසංඨානය ප්‍රභාශ්වර තත්ත්වයට පත් කර ගැනීමත්, දස සංයෝජන ක්‍රමානුකූලව අවස්ථා හතරක දී ප්‍රහාණය වී

යාමත් සිදු වී සෝතාපන්න, සකෘදාගාමී, අනාගාමී, අරහත් යන මාර්ගයන් හා ඵලයන් සම්පූර්ණ වන ආකාරයත් පැහැදිළි කර පෙන්වා දීමයි.

මෙතැනදී පෙන්වූ උප්පාදෝ භයං, උප්පාදෝ දුක්ඛං, උප්පාදෝ සාමිසං, උප්පාදෝ සංඛාරං යන විග්‍රහයේදී "උප්පාදෝ" යනු පුද්ගලයෙකුගේ, සත්ත්වයෙකුගේ සම්මත උත්පත්තිය පමණක්ම නොවේ. මොහොතක් මොහොතක් පාසාම, චිත්තක්ෂණයක් චිත්තක්ෂණයක් පාසාම සිතක උපත ලබන්නාවූ අරමුණුවලට පටිච්ච වීම නිසා ප්‍රිය අප්‍රියතාවන්ට බැඳීම නිසා ඇලීම, මුළාවීම නිසා සිතක හේතුඵල පරම්පරාවක් උපත ලබන, පවතින, ක්‍රියාත්මකවන ආකාරයත් විග්‍රහ කිරීමයි.

අනුප්පාදෝ ඛෙමං, අනුප්පාදෝ සුඛං, අනුප්පාදෝ නිරාමිසං, අනුප්පාදෝ නිබ්බානන්තී යනුවෙන් විග්‍රහ වන්නේ චිත්තසංථානයක නිච්ච සංඥාවක්, අත්ථ සංඥාවක් නොඉපදුණොත්, සංඛාර උත්පත්තියක් පටිච්ච නොවුණොත්, චිත්තසංථානය අනිමිත්ත බවට, අප්පණිහිත බවට, සුඤ්ඤත බවට පත්වීම නිසා නිබ්බානන්තී බවට පත්වන බව පෙන්වීමටම කරන ලද විග්‍රහයකි. ඒ මිස දූන් ගත කරන මේ ලබා ඇති උපත අනුප්පාද කිරීමේ ක්‍රමයක් පිළිබඳව නොවේ. පංචඋපාදානස්කන්ධයම අත්හැරියහොත්, සංඛාර පැවැත්වීම (එකතු කිරීම) අත්හැරියහොත්, ආසව - නිරාසව කළහොත් නිබ්බානන්ති යන නිවන් සුවයත් මේ මිනිස් ජීවිත කාලය තුළදීම අත්දැක, අත්විඳ ගත හැකි සත්‍යය වූ දෙයක් බව විග්‍රහ කර පෙන්වා දී ඇත.

"චක්ඛුංච පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං
සෝතංච පටිච්ච සද්දංච උප්පජ්ජති සෝත විඤ්ඤාණං
මනංච පටිච්ච ධම්මේච උප්පජ්ජති මනෝ විඤ්ඤාණං"

මේ ඉහත පෙන්වා ඇති වාක්‍යවල "උප්පජ්ජති" යන පදයෙන් පෙන්වා දුන්නේ පෙරදී විග්‍රහ කරන ලද උප්පත්ති යන අදහසමයි. එමනිසා පුද්ගලයෙක්, සත්ත්වයෙක් අත්විඳින සම්මත උත්පත්තියත් සම්මත මරණයත් අතර ජීවිත කාලයක් තුළ අනන්ත අප්‍රමාණ වාරයක් උප්පත්ති, උපපත්ති, නිබ්බත්ති යන පදවලින් විග්‍රහ කරන ලද "උපත්" ලබයි. එසේම ඒවා ගෙවී, දිය වී විනාශ වී යයි. "පොනෝභවිකා" යනු පුන පුනා බිහි කිරීම යන අදහසයි.

"අනුපපත්ති" යන සංඛාර නොකරන තත්ත්වය අනුව සමුදය ධර්මයෝ උපදවා නොගැනීම සඳහා "සං" නූපදීම, නිර්උදා හේතුව කොටගෙන ලබන නිදහස, නිවන අත්විඳ ගත හැකියි. සමුදය නිරෝධ කිරීමත් - නිරෝධගාමී මාර්ගයත් නිවනයි.

මේ අනුව බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ පිරිසිදු නිවන් මාර්ගය ඒකායන අර්ථයෙන්ම "අනුප්පාදෝ ඥාණං" මුල් කොටගත් අනුප්පාදය අවසාන පරම අර්ථය කොටගත් අනුපූරක නිවන් මාර්ගයක් ම වේ.

මේ නිවන් මාර්ගය පැහැදිළිවම, පිරිසිදුවම දැන ගැනීමත්, ඒ නිවෙන මාර්ගය යථාවබෝධයෙන්ම අනුගමනය කිරීමත්, ඒ දැනගත් මඟ තමන්ම අත්විඳ ගැනීමත් නිවනයි.

# ධම්මානුධම්ම පටිපදාව - තෙවන පියවර

"මේ උතුම් බුද්ධ ධර්මය ප්‍රඥාවන්ත පුද්ගලයාට මිස දුප්පඤ්ඤ පුද්ගලයාට ගෝචර නොවේ" යැයි ආනාපානසති සූත්‍ර දේශණාවේදී මෙන්ම වෙනත් තැන්වලදීත් බුදුපියාණන් වහන්සේ ම පෙන්වා වදාළහ.

මිනිසුන් ලෙස උපතලත් ඔබ හැම කෙනෙකු ම උපතින් ම මනසක්ද උරුම කරගෙනම උපත ලබා ඇත. මනස පාවිච්චි කරමින් තම චිත්තසංථානයේම ගබඩා වී පවතින කෙළෙස් ගති දැක ඒවා ප්‍රහාණය කර දැමීමට ක්‍රියා කළහොත් බොහෝ මිනිසුන්ටත් ප්‍රඥාවන්තයින් ලෙසින් ද ක්‍රියා කිරීමේ ශක්තියක් තමා තුළම ඇති කර ගත හැකියි. මේ අනුව ධර්මාවබෝධය ලබා ගැනීමට හැකි ආකාරයට මිනිසුන්ගේ සිතුම් පැතුම් සැකසීමට උපකාර වීමත්, ධර්මාවබෝධය ලැබූ අයට සසර දුකින් සදහටම මිදී නිදහස් වීමට මඟ පැහැදිළිවම පෙන්වා දීමත් බුද්ධ දේශණාවේ ඒකායන පරමාර්ථය වේ.

යමෙකුට බුද්ධ ධර්මය අසා බුද්ධ දේශණාවෙහි සඳහන් සරළ දේ පවා තේරුම් ගත නොහැකි නම් එය කාගේවත් ම වරදක් නොවන බවත් තමා තුළම ඇති වැරදි දෘෂ්ඨිය බවත් දැනගත යුතුයි. බුද්ධ ධර්මයේ දේශණා කර වදාළ ගැඹුරු ධර්මයන් නිවැරදිව ම තේරුම් ගත හැකි වන්නේ තමා තුළම අනන්ත අප්‍රමාණ කාලයක් පටන්ම මුල් බැසගෙන පවතින මිච්ජා දෘෂ්ඨි, වැරදි ගතිගුණ, වැරදි හුරු පුරුදු තමා තුළින් ම ඉවත් කර නිදහසේ සිතන්නට පුරුදු පුහුණු වීමත් සමඟම පමණි. මේ වැරදි ආකල්ප, නරක ගතිගුණ, හුරු පුරුදු අතීතයේ තමන්ම එකතු කර තමාගේම චිත්තසංථානය තුළම ගබඩා වී පවතින නිසා ඒ කෙළෙස්වලින් ම තමාගේ ම මනස වැසී යෑම හේතු කොටගෙනම දැන් තමා මෝහයෙන් යුතුව ක්‍රියා කරන බවත් දැනගත යුතුයි. තමා දුක් විඳින්නේ මේ බව නොදැනීම, අවිද්‍යාව, නොදන්නාකම නිසයි. මෝඩකම ඇත්තේ තමා තුළමයි. තම මනස වසා, මුවහ කරගත්තේ ද තමන් මයි.

දැඩි දෘෂ්ඨියෙන් මුළා වූ, මිච්ඡා දිට්ඨියෙන් හරිත වූ බොහෝ මිනිසුන්ට බුදු බණ දේශණා කර මනස, ඥාණය උපදවා පහදා ගන්නට මඟ කියා දුන්නත් ක්‍රියාත්මක වශයෙන් ඒ මඟ අනුගමනය කරගන්නට ඔවුන්ට නොහැකියි. එවැනි අයට පිහිටවන මඟක් පෙන්වීමද අපහසුයි. එවැනි අයට ධර්මය දේශණා කරන්නට දරණ උත්සාහය ද කාලය අපතේ යැවීමක් පමණි.

පොඩි දරුවන්ට සෙල්ලම් බඩුවක්, සීනි බෝලයක් වැනි ඒ මොහොතේ සිත සනසා ගන්නට යමක් දී රවටනවා මෙන් ඒ අයට ලෞකික දෙව් මිනිස් සැප සම්පත් මවා පෙන්වා දී තාවකාලිකව හෝ යහමඟට ගැනීමේ ක්‍රමයක්ද බුද්ධාගමේ නම් ඇති බව තේරුම් ගත යුතුයි. එවන් ලෞකික සැප සම්පත්, දෙව් මිනිස් සැප සම්පත් හඹා යන පුද්ගලයා නිරන්තරයෙන්ම ආත්ම දෘෂ්ඨියට පත්වීමද සිදුවෙයි. ලාභ දෘෂ්ඨියට පත්වීමද සිදුවෙයි. ආස්වාදයක් විඳගැනීමේ අත්ථපටිලාභ දෘෂ්ඨියද ඒ නිසා ම භව දෘෂ්ඨිය හා විභව දෘෂ්ඨියට පත් වීම ද නියත වශයෙන් ම සිදු වේ.

මේ අනුව මිනිසෙකු ලෙසින් අද උපත ලබා සිටින ඔබ පළමු කොටම ශුද්ධ පවිත්‍ර කරගත යුතු වන්නේ තමා තුළම මුල් බැසගෙන පවතින වැරදි දෘෂ්ඨියයි. මිච්ඡා දෘෂ්ඨියයි. සක්කාය දෘෂ්ඨියයි. සීල, සමාධි, ප්‍රඥා යන අංග තුනම මේ සඳහා ද නියත වශයෙන් ම උපකාර වන බව තේරුම් ගත යුතුයි. සීල විශුද්ධිය, චිත්ත විශුද්ධිය නිසාම දෘෂ්ඨි විශුද්ධියට පත්වීම ද සිදුකර ගත හැකි වේ.

බුද්ධ භාෂිතයේ සඳහන් පංච සීලය සීල විශුද්ධියයි. බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළ පංච සීලය පටිසම්භිදා මග්ගප්ප්‍රකරණයේ දී මෙසේ දක්වා ඇත.

"පාණාතිපාතස්ස පහානා සීලං, වේරමණී සීලං, චේතනා සීලං, සංවරෝ සීලං, අවිතික්කමෝ සීලං"

සංවර සීලය මෙහි වැදගත්ම අංගයයි. එහිදී මූලිකම කොටස් හතරක් විග්‍රහ වේ. සියලු සිල් පදයන්හි ම මේ අංග පහම අඩංගු වේ.

1. ප්‍රාතිමෝක්ඛ සංවර සීලය - චාරිත්‍ර වාරිත්‍ර සීලයයි.
2. ඉන්ද්‍රියය සංවර සීලය - ඉන්ද්‍රියයන් හය සංවර කර ගැනීමයි.
3. ආජීව පාරිශුද්ධ සංවර සීලය - පිරිසිදු ආජීවකයෙකුගේ පැවැත්මයි.
4. ප්‍රත්‍ය සන්නිශ්‍රිත සංවර සීලය- සිවුපසය සංවරත්වයෙන් පරිහරණය කිරීමයි.

සතර සංවර සීලයේ පිහිටියෙකු අප්පමාද වූ අයෙකි. මදයට, ප්‍රමාදයට හේතු ඔහු තුළ නොවේ. කළ්‍යාණ ධර්මයන් පිළිපදින කළ්‍යාණ මිත්‍රයින් ආශ්‍රය කරන කෙනෙකි. බිය පහකර දැමුවෙකි. අවංකව, පිරිසිදුව, පවිත්‍රව ක්‍රියාකරන කෙනෙකි. මරණ මොහොතේදී පවා සිහි මුළා නොවී සිහියෙන් කාලක්‍රියා කරන්නට හැකි ශක්තිය ඇත්තෙකි. මරණයෙන් පසු නිවන් නොදක්කේ නම් සුගති ලෝකයකම උපත ලබයි. සංවර සීලයේ පිහිටා ක්‍රියාකරන කෙනෙකු චේතනා සීලය, ප්‍රහාණ සීලය, වේරමණී සීලය මෙන්ම අවිතික්කම සීලයෙහි ද පිහිටා ක්‍රියාකරන්නෙකුම වේ.

මිනිස් සමාජයේ සාමාජිකයෙකු ලෙසින් එදිනෙදා තම පැවැත්ම යහපත් ලෙසින් පවත්වා ගන්නට නීති ගරුකව, ශිෂ්ට සම්පන්නව, සුචරිතවත් ලෙසින් ජීවිතය පවත්වා ගන්නට උපකාර වන සම්මත පංච සීලයක්ද තිබේ. එය ලෞකික සීලයයි. එය සමාජ චර්යා ධර්ම පද්ධතියකි. ගිහියාටත්, පැවිද්දාටත් නිත්‍ය සීලයක් ලෙසින් පෙන්වා දුන් මේ ලෞකික සීලය යහපැවැත්මකට මෙන්ම යහපත් සමාජ රටාවකටද උපකාරවන සීලයකි. මෙමඟින් ලෝකයේ ජීවත් වන්නට, ශික්ෂණය වන්නට, හික්මීමට උපකාරයක් ලැබේ. සංවරත්වය, සංවර සීලය යන්න ඊට වඩා බලවත් එකකි. එය බෞද්ධ අබෞද්ධ හැම මිනිසෙකුටම නිවන් අවබෝධය සඳහාම නියත වශයෙන් උපකාර වන සීලයකි. බුද්ධ ධර්මයේ හැර වෙනත් ආගමක හෝ ආගම් සංකල්පයක් තුළ හෝ මේ සංවර සීලය පෙන්වා දී නොමැත. සුගති ලෝකයකට යාමේ හෝ අපායෙන් බේරී නිදහස් වීමට හෝ බලාපොරොත්තුවෙන් රකින සීලයක් නම් එය සංවර සීලයක් නොවේ. එහි යම් ලෞකික බලාපොරොත්තුවක් පැවතීම එයට හේතුවයි.

ජෛන, පතංජලී, ශිව ආදී විවිධ පෙරදිග ආගම්වල එදා පැවති පංචසීල හෝ උපෝසථ සීල ප්‍රතිපත්තීන් ඉතා ගරු කොට වැදගත් කොට සැලකූ බව පෙනේ. බුද්ධඝෝෂ හාමුදුරුවෝ, ගුරුළුගෝමීන් වැනි අටුවාචාරීන් විග්‍රහ කර පෙන්වූයේ ද වේද, ජෛන, ශිව, පතංජලී ආදි ආගම්වල එදා අනුගමනය කළ ලෞකික සීල ප්‍රතිපදාවන් ම මිස සංවර සීලය යන අර්ථය ඇතිව පෙන්වා වදාළ සීලයක් නොවේ. අද බුද්ධාගමේ ද සිල් ගැනීම, සිල් රැකීම ආදි වශයෙන් ගිහි, පැවිදි දෙපිරිසම කරන්නේත් විශ්වාස කරන්නේත් එදා විශුද්ධි මාර්ගය ලියා බුද්ධඝෝෂ හාමුදුරුවෝ ඉස්මතු කර දුන් ලෞකික සීල ප්‍රතිපදාව මිස සංවර අර්ථයෙන් එදා බුදුපියාණන් පෙන්වා වදාළ ත්‍රිපිටකයේ සඳහන් වන සීල විශුද්ධිය නම් නොවේ. මේ සීල සමාදානය ද හොඳ යහපත් දෙයකි. මෙහි අයහපතක් ඇතැයි කාටවත් ම කිව නොහැකිය. නමුත් බුද්ධ ධර්මය අනුගමනය කර, නිවන් අවබෝධයම ලබා ගන්නට බලාපොරොත්තු වන බෞද්ධ පින්වතුනට නම් මෙම ලෞකික සීල ප්‍රතිපදාවට අමතර වශයෙන් ලෝකෝත්තර නිවන් මාර්ගයට උපකාර වන සංවර සීලයද අත්‍යවශ්‍යම වන අංගයකි.

වේරමණී සීලය බුදුපියාණන් බුද්ධත්වයට පත්වන වකවානුවෙහිත් ජන්බුද්වීපයේ බහුල ලෙසින් ම භාවිතා කළ සමාදන් වූ සීල ප්‍රතිපදාවකි. බුදුපියාණන්වහන්සේ මේ සම්මත සීල ප්‍රතිපදාවටම ලෝකෝත්තර අර්ථයක් ලබාදී සංවර අර්ථයෙන්ම සීලයේ පිහිටා ක්‍රියාකළ යුතු බව දේශණා කර වදාරා ඇත.

සමාදන් කරවීම යන පදයෙන් අර්ථ ගැන්වෙන්නේ යම් කෙනෙකු පොරොන්දු කරවාගෙන, සපථ කරවාගෙන, යමකින් වළක්වා ගැනීමට දරණ උත්සාහයකි. මෙය බොහෝ දේව ආගම්වල දකින්නට ලැබෙන ලක්ෂණයකි. නමුත් බුද්ධ භාෂිතයේ අනුදැන වදාළ සීල ප්‍රතිපදාවෙහි, සීලයේ පිහිටා ක්‍රියාකරන කෙනෙකුගේ ළය සිසිල් වන බව, හදවත සුදුවන බව, (සුහද) ඉන්ද්‍රියයන් සංවර වන බව ඒ පුද්ගලයාටම අත්විඳ ගන්නට හැකි වන කරුණකි. ඒ සීල ප්‍රතිපදාවෙන් තමන්ම නිවෙන බව, නිදහස් වන බව, තමන් ම නිවනට ළංවන බව, අත්දැක ගත හැකි වීම විශේෂත්වයකි.

නිවන් මඟට උපකාර වන ලෝකෝත්තර සීලයේ, සීල ප්‍රතිපදාවේ පිහිටා ක්‍රියාකරන පුද්ගලයා නියත වශයෙන්ම නිරුත්සාහයෙන්ම අනිවාර්යයෙන්ම යහපත්, හොඳ නිවැරදි පුද්ගලයෙකු වීමද සිදුවේ. මෙය අතුරු ප්‍රතිඵලයකි. නමුත් අරියකාන්ත සීලයේ ඒකායන පරමාර්ථය සසර දුකින් සදහටම මිදී නිදහස් වීමයි.

ආගම් සංකල්පවල පෙන්වා දෙනු ලබන ලෞකික සීල ප්‍රතිපදාවෙහි යෙදීමෙන් "අත්තුක්කංසන පරවම්භවනය" සිදු නොවේ. එනම් කුල බලය, නිල බලය, ධන බලය, උගත්කම, බුද්ධිමත්කම, බහුස්සුත බව වැනි මානය මුල් කොට ගත් ගති ගුණ නිසා අනුන් පහත හෙළා ක්‍රියා කරන්නට, තමන් උසස් යැයි සිතන්නට, එසේ කථා කරන්නට උපකාරවන ආත්මාර්ථකාමී ගතිගුණ ප්‍රහාණය නොවේ. ප්‍රහාණ සීලය, චේතනා සීලය මේ ලෞකික සීල සමාදානයන් තුළ නැති නිසා එවැනි ගතිගුණ ප්‍රහාණය වීමක් සිදු නොවේ. අප්‍රමාණ මෙත්තාව - චේතෝ විමුක්තිය, සමමෙත පතුරවා විද්‍යා විමුක්තියට පත්වීමට නම් ලෝකෝත්තර සීල ප්‍රතිපදාවෙහි ම පිහිටිය යුතුයි. තමන් සංසාරයේ පුරුදු කරගෙන ආ යම් යම් ගති පුරුදු, ආත්මවාදී ලක්ෂණයන් ඉවත් කර පාරිශුද්ධ තත්ත්වයට පත් වීමට නම්

අවිතික්කම සීලයේද පිහිටිය යුතුමයි. පාපය, වරද සම්මතයට වඩා ලෝකෝත්තර සීලයේ පදනම බවම තේරුම් ගෙන ක්‍රියා කිරීම "සංවරට්ඨේන සීල විශුද්ධිං" යන පදවල අර්ථයයි.

අරිය අෂ්ටාංගික මාර්ගයේ පෙන්වා වදාළ සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව යන ලෝකෝත්තර සීල අංග සම්පූර්ණ කරගත හැකි වන්නේද සංවර සීලයෙන්, චේතනා සීලයෙන් හා අවිතික්කම සීලයෙන් ම පමණි. මේ බව මහාචත්තාරීසක සූත්‍රයේදී ඉතාමත් පැහැදිළිව විග්‍රහ කර පෙන්වා දී තිබේ.

ආගම්වල සමාදන් වන ලෞකික සීලය ඒ ඒ කාලයට, ඒ ඒ දේශයට, ඒ ඒ පුද්ගලයාට, ඒ ඒ පාලකයාට අනුව වෙනස් වූ, වෙනස් වන දෙයකි. රටක මිනිසෙකු මැරීම පාණාතිපාතයට අයත් වන පාප කර්මයක් නමුත් යුද්ධයක් පවතින රටක යම් ලෞකික පරමාර්ථයකින් මිනිසුන් මරණයට පත්කර හෝ රට රැක ගැනීම යහපත් සදාචාරවත් සම්මත වූ එකක් බව අද මෙන් ම එදා ද සැළකූ බව පෙනේ. මේ අනුව සිල්පද රැකීමත්, සමාදන් වීමත් විවිධ සමාජ අවශ්‍යතාවන් අනුව වෙනස් වන දෙයකි. අනුන් සතු දේ බලෙන් අල්ලා ගැනීම අදින්නාදානය ද මේ ආකාරයෙන් ම සිදු වේ. කාමයෙහි හැසිරීම ද මේ ආකාරයෙන්ම විග්‍රහ කරගත යුතුයි. අතීතයේ රටේ රජුට තම රටේ හැම රුවැති කාන්තාවක්ම තම අන්තඃපුරයට ගෙන්වා ගන්නට අයිතියක් පැවතුණි. මේ නිසාම සම්මත සීලය හා සංවර සීලය යන දෙකෙහි අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාණ යන සියල්ලම නා නා අර්ථ ගන්නා බව පෙන්වා දිය යුතුයි. තමන්ට හොඳ දේ, තමන්ට ගැළපෙන දේ, වැඩි දෙනෙකු පිළිගන්නා සම්මත ක්‍රමය, ලෞකික සීලයයි. එය සමාජමය වශයෙන් කොතරම් යහපත් වුණත්, නිවනට බාධක නම් එය සංවරත්වයට බාධක නම්, චේතනාව අපිරිසිදු නම් එතන නිවනට උපකාර වන සීලයක් ද නොපවතී. මේ අනුව සංවර අර්ථයෙන්ම සීල විශුද්ධියේ පිහිටා ක්‍රියා කිරීම නිවනට මාර්ගයයි.

මේ ආකාරයෙන්ම විශුද්ධි මාර්ගයේ කංඛාවිතරණ විශුද්ධියක් පිළිබඳවද පෙන්වාදී ඇත. විචිකිච්චාවෙන් වෙන් වී උද්ධච්චයෙන් වෙන් වීම, අවික්ඛේපාර්ථයෙන්ම චිත්ත විශුද්ධියට පත්වීමක් මිස කංඛාවිතරණයෙන් මිදී, සැකයෙන් නිදහස් වීමේ ක්‍රමවේදයක් බුද්ධ දේශණාවෙහි නම් පෙන්වා දී නොමැත. අටුවාචාරීන් "කංඛා විතරණය" හා "විචිකිච්චාව" වෙන් කොට නොදුටු නිසා, විචිකිච්චාව ද සැකයක් සේම විග්‍රහ කිරීමෙන් "අනිච්චානුපස්සනාව" ප්‍රගුණ කර නිච්ච සංඥාව ප්‍රහාණය කිරීමෙන් අසාර බව, අනාථ බව අනුපස්සනා කරමින් අත්ථ සංඥාව ප්‍රහාණය කිරීමේ ක්‍රමය බෞද්ධයාට නුහුරු නුපුරුදු දෙයක් බවට ම පත් කරන ලදී.

නිවන් අවබෝධ කරගැනීමට කටයුතු කරන ගිහියෙකු හෝ යෝගාවචරයෙකු හෝ "පංච ප්‍රහාණයන්" පිළිබඳවද නිවැරදිවම අවබෝධ කරගත යුතුයි. "කුසලස්ස උපසම්පදා" යනුවෙන් පෙන්වා දුන්නේ සළාහැර, අස්කර, ඉවත්කර දැමිය යුතු කුණු, කෙළෙස්, ආසව පිළිබඳවයි. මේ නිසා සංසාර ගමනේදී කවදා හෝ තමන් එකතුකර තම චිත්තසංථානයේ ම දනට ගබඩා වී ඇති කිළිටි ගති (කුණු) ප්‍රහාණය කර, ඉවත් කිරීම පස් ආකාරයකින් සිදු කරගත යුතුයි. මේ පස් ආකාරය පංච ප්‍රහාණයන් ලෙසින් ධර්ම විග්‍රහයේ පැහැදිළිවම පෙන්වා දී තිබේ.

.

1. වික්ඛම්භණ වශයෙන් ප්‍රහාණය කිරීම
2. තදංගම වශයෙන් ප්‍රහාණය කිරීම
3. සමුච්ඡේද වශයෙන් ප්‍රහාණය කිරීම
4. පටිපස්සද්දි වශයෙන් ප්‍රහාණය කිරීම හා
5. නිස්සරණ වශයෙන් ප්‍රහාණය කිරීම

1. වික්ඛම්භණ වශයෙන් ප්‍රහාණය කළ යුත්තේ කාමච්ඡන්දය, ව්‍යාපාදය, ථිනමිද්ධය, උද්ධච්චය, විචිකිච්චා යන පංචකාම නීවරණ ධර්මයි. කාමච්ඡන්දය දුරු කිරීමෙන් නෙක්ඛම්ම තත්ත්වයට සිත පත්වීමත්, ව්‍යාපාදය දුරු කිරීමෙන් මෙත් සිත වැඩීමත්, ථිනමිද්ධය දුරු කිරීමෙන් අලෝක සංඥාව මතුවීමත්, උද්ධච්චය දුරු කිරීමෙන් සිතේ විසිරුණු ගතිය දුරු වී, අවික්ඛේප තත්ත්වයට සිත පත්වීමත්, විචිකිච්චාව දුරු වීමෙන්, හේතුඵල දැක සතියෙහි පිහිටා කටයුතු කිරීමේ ශක්තිය ලැබීමත් නිසා, පළමුවැනි අරිය ධ්‍යානයට පත්වීමේ හැකියාව ද ලැබේ. මේ අනුව, එතෙක් කාලයක් සිතේ මුල් බැසගෙන පැවති නීවරණ ධර්මයෝ ප්‍රහාණය වී ප්‍රථම ධ්‍යානයේ පටන් මාර්ගයන්ට පත් වේ. මේ ක්‍රියාවලිය සඳහා ද ආනාපානසතියම වැඩිය යුතුයි. සේවනය කළ යුතුයි. භාවිතා කළ යුතුය. බහුල ලෙසින් භාවිතා කළ යුතුයි.

නෙක්ඛම්ම අස්සසති කාමච්ඡන්දං පජහති
අව්‍යාපාදං අස්සසති ව්‍යාපාදං පජහති
අවික්ඛේපං අස්සසති උද්ධච්චං පජහති
ධම්මවවත්තේන අස්සසති විචිකිච්චං පජහති
ඥාණ වශයෙන් ජාතධම්මා අවිජ්ජා පජහති
පාමොජ්ජ (ප්‍රමෝදය) ජාතධම්මා අරතිං පජහතෝ

මෙහිදී භාවිතා කළයුතු සේවනය කළයුතු වන්නේ ඉතාමත් ම පැහැදිළිව ආනාපානසතියයි. නෙක්ඛම්ම ආන කරන විට (අස්ස) කාමච්ඡන්දය "පාන" කළ යුතුයි. ප්‍රහාණය කිරීම "පාන" යන අර්ථයෙන් හා පජහති යන අර්ථයෙන්ද මෙහිදී පෙන්වා දී තිබේ.

2. තදංගප්පහාණංච - දිට්ඨිගතානං නිබ්බේධ භාගියා සමාධං භාවයතෝ.
මේ දෙවන අවස්ථාවේදී ධ්‍යානයන් ලබා ගැනීමත් සමඟම මෙතෙක් පැවති තද දෘෂ්ඨිගතවීම් නිර්වේදයට පැමිණ, වේදනා විඳීමෙන් තොර වූ තත්ත්වයකට පැමිණ, තදින් දෘෂ්ඨිගත වීමෙන්ද ඉවත් වී සමාධිගත වීමත් සමඟම සංයෝජන වෙන්කර දැක ගැනීමටත්, ආසව අනුසය වෙන්කර දැක ගැනීමටත් හැකි වේ. මෙය තදංගම ප්‍රහාණයයි.

3. සමුච්ඡේදප්පහාණං - ලෝකුත්තරා ඛයගාමි මග්ගං භාවයතෝ
මාර්ග ඵලයන් ලබාගන්නටම උපකාර වන ආසව, අනුසය ඛය වී යන, කෙළෙස් මුලින් ගළවා දමන, සමුච්ඡේද වශයෙන් කෙළෙස් ප්‍රහාණය කරනු ලබන්නේ මේ අවස්ථාවේදීයි. මෙය ලෝකෝත්තර නිවන් මාර්ගය වන,

1. සෝතාපන්න මාර්ගය
2. සකෘදාගාමී මාර්ගය
3. අනාගාමී මාර්ගය
4. අරහත් මාර්ගය

යන මාර්ගයන් සතර සම්පූර්ණ කර ගැනීමට අවශ්‍ය වන ආසවක්ඛයා ඥාණය හා අනුසය ඛයා ඥාණයමයි. ඛණ සම්පත්තිය හතර වරකදී සම්පූර්ණ වීමත් සමඟම සමුච්ඡේද වශයෙන් ආසව ඛය වී, නිවන් මාර්ගය සම්පූර්ණ වන්නේ මෙම තුන්වන පියවරේදීයි.

4. පටිපස්සද්ධිප්පහාණංච - පලක්ඛනේ (මාර්ග ඵලයකට පත්වීම)
සමුච්ඡේද වශයෙන් අනුසය ධර්මයන් ඛය වී යාමත් සමඟම සෝවාන්, සකෘදාගාමී අනාගාමී, අරහත් ඵලයන්ට පත්වන්නේ මේ අවස්ථාවේදීයි. මේ ඛණ සම්පත්තිය පූර්ණ වීමයි.

5. නිස්සරණප්පහානංච - නිරෝධෝ නිබ්බානං
මේ අවස්ථාව නිවන් ඵලයට පත්වී සිත අනුප්පාද තත්ත්වයට පත්වීම නිසා ලබන නිවන් සුවය අත්විඳ ගැනීමයි. අරහත් මාර්ග ඵලයෙන් පසුව ලබන නිබ්බාන සුවය සදාකාලික වශයෙන්ම සසර දුකින් මිදී ලබන අනුප්පාද නිස්සරණයයි. කෙළෙස් උපත ලබන සියලු මාර්ගයන් සහමුළින් ම ගළවා අවසන්කර නිස්සරණ තත්ත්වයට පත්වීමයි.

1. i. චක්ඛුංච පටිච්ච රූපේච - උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං
ii. චක්ඛුංච නපටිච්ච රූපේච - අනුප්පාදෝ නිබ්බානං

මේ ප්‍රකාශ දෙකෙන් පැහැදිළිවම දෙපැත්තක් පෙන්වා දී ඇත. පළමුවැනි ප්‍රකාශයෙන් ඇසත් රූපයත් පටිච්ච වීම නිසා කැමැත්තෙන්ම බැඳීම හේතුව කොටගෙනම විඤ්ඤාණ ශක්තියක් සිතක උපදී. "සං" ශක්තිය උපදී. කෙළෙස් උපදී.

දෙවැනිව ප්‍රකාශ වන්නේ "න පටිච්ච" - කැමැත්තට වහල් නොවී, කැමැත්තට නොබැඳී, උපේක්ඛා සිතින් ක්‍රියා කිරීම නිසා විඤ්ඤාණ ශක්තියක් නොඋපදින නිසා ඵල විපාකයක් උරුම නොවේ යන අදහසයි. ඵල විපාක උරුම නොවේ නම් එතැන "අනුප්පාද" තත්ත්වයක් පවතී. එයම නිවනයි. නිදහස් වීමයි. මෙතැන "අනුප්පාදෝ" යන පදයෙන් විග්‍රහ කළේ සම්මත උපතකින් නිදහස්වීම පමණක්ම නොවේ. මොහොතක් මොහොතක් පාසාම සිතක උපදින විඤ්ඤාණ ශක්තියකින්ම නිදහස් වීම පිළිබඳවයි. කර්ම බීජ සකස් වීම, කෙළෙස් උපත අනුප්පාද වීමයි. මේ ආකාරයටම

| | | | |
|---|---|---|---|
| 2. | i. | සෝතංච පටිච්ච සද්ධංච | - උප්පජ්ජති සෝත විඤ්ඤාණං |
| | ii. | සෝතංච න පටිච්ච සද්ධංච | - අනුප්පාදෝ නිබ්බානං |
| 3. | i. | ඝානංච පටිච්ච ගන්ධංච | - උප්පජ්ජති ඝාණ විඤ්ඤාණං |
| | ii. | ඝානංච න පටිච්ච ගන්ධං ච | - අනුප්පාදෝ නිබ්බානං |
| 4. | i. | ජිව්හංච පටිච්ච රසේච | - උප්පජ්ජති ජිව්හා විඤ්ඤාණං |
| | ii. | ජිව්හංච න පටිච්ච රසේච | - අනුප්පාදෝ නිබ්බානං |

5. i. කායංච පටිච්ච පොට්ඨබ්බංච - උප්පජ්ජති කාය විඤ්ඤාණං

ii. කායංච න පටිච්ච පොට්ඨබ්බංච - අනුප්පාදෝ නිබ්බානං

6. i. මනංච පටිච්ච ධම්මේච - උප්පජ්ජති මනෝ විඤ්ඤාණං

ii. මනංච පටිච්ච ධම්මේච - අනුප්පාදෝ නිබ්බානං

මෙතැනදී තේරුම් ගතයුතු වැදගත්ම මූලධර්මය වන්නේ මේ ඉන්ද්‍රියයන් හයට පටිච්ච වීමට අමතරව වෙනත් කිසිම ආකාරයකින් විඤ්ඤාණ ශක්තියත් සිතක උත්පාදනය නොවන බවයි. ඒ වාගේම ප්‍රිය බවෙන්, අප්‍රිය බවෙන් හෝ මුළාවෙන් පටිච්ච නොවුණොත් උපේක්ඛා තත්ත්වයට සිත පත් කරගෙන ක්‍රියා සිතක් පමණක් පැවැත්වූවොත් එතැනදීත් විඤ්ඤාණ ශක්තියක් නොඋපදින බවත්, විඤ්ඤාණ ශක්තියක් උත්පාද නොවුණොත් කර්ම බීජ සකස් නොවන බවත් දැනගත යුතුයි.

1. විඤ්ඤාණ ශක්තියක් උප්පාදනය වීමම දුකට හේතුවයි.
   විඤ්ඤාණ ශක්තීන් අනුප්පාදෝ සුඛං (නිරාමිස සුවයයි).
2. විඤ්ඤාණ ශක්තියක් උප්පාදනය වීමම භයට හේතුවයි.
   විඤ්ඤාණ ශක්තීන් අනුප්පාදෝ ඛේමං (සහනයයි).
3. විඤ්ඤාණ ශක්තියක් උප්පාදනය වීම ආමිසං - ආසව උපතට මුලයි.
   විඤ්ඤාණ ශක්තීන් අනුප්පාදෝ නිරාමිසං.
4. විඤ්ඤාණ ශක්තියක් ඉපදීම සංඛාර පැවැත්වීමට මුලයි.
   විඤ්ඤාණ ශක්තීන් අනුප්පාදෝ නිබ්බානං - නිදහස් වීමයි.

මේ නිවන නිදහස මොහොතින් මොහොතම තමන්ටම අත්විඳ ගත හැකි දෙයක්ම බවත් හැම කෙනෙකුටම දැන් අවබෝධ විය යුතුයි. විඤ්ඤාණ ශක්තිය දුර්වල වී යත්ම ප්‍රඥා ශක්තිය ක්‍රියාත්මක වීමටත් ආරම්භ වේ. ප්‍රඥා ශක්තිය යනු රාග, ද්වේෂ, මෝහ ගති වලින් හටගත් ආසව, අනුසය ධර්ම ඛය කර, ගළවා දැමීමට ඇති හැකියාවයි. ආසවක්ඛයා ඥාණයයි.

භාවනා කිරීම පරමාර්ථ වශයෙන් කොටස් හතරකට බෙදා බුද්ධ භාෂිතයෙහි විග්‍රහ කර අර්ථ දක්වා ඇත.

i. අනතිවත්තනට්ඨේන භාවනා

ii. ඉන්ද්‍රියානං ඒකරසට්ඨේන භාවනා

iii. තදුපගවිරියවාහනට්ඨේන භාවනා

iv. ආසේවනට්ඨේන භාවනා යනුවෙනි

1. අනතිවත්තන - අර්ථයෙන් භාවනාව යනු අනිච්ච, දුක්ඛ, අනත්ථ වශයෙන් පැවැත්මෙහි, ජීවත්වීමෙහි ඇති යථාර්ථය ප්‍රත්‍යක්ෂ කර යථාවබෝධයක් ලබා ගැනීමට හැකි වන ආකාරයට භාවනා කිරීමයි. දුක්ඛ, සමුදය, නිරෝධ ප්‍රත්‍යක්ෂ කර චතු අරිය සත්‍යයන් ප්‍රත්‍යක්ෂ කර අවබෝධ කර ගත හැකි වන්නේ මෙම විපස්සනා භාවනා ක්‍රමයෙනුයි.

දුක යනු කිමැයි පීලනට්ඨෝ අභිඤ්ඤෙයියං (පීඩන අර්ථයෙන්)

දුක යනු කිමැයි සංඛතට්ඨෝ අභිඤ්ඤෙයියං (එකතු කිරීමේ අර්ථයෙන්)

දුක යනු කිමැයි සන්තාපට්ඨෝ අභිඤ්ඤෙයියං (තවන අර්ථයෙන්)

දුක යනු කිමැයි විපරිණාමට්ඨෝ අභිඤ්ඤෙයියං (වෙනස් වන අර්ථයෙන්)

දුක පීඩාවක්ය, තමන්ම සකස්කර ගත් දෙයක්ය, පෙළීමක්ය, විඳවීමක්ය යන අර්ථයෙන් යථාපරිදි අවබෝධ කරගත යුතුයි. දුක යනු සංඛාර කිරීමෙන් තම සිතෙන් ම සාදා එකතු කර තමාම සකස් කරගත් දෙයක් බව යථාපරිදි අවබෝධ කරගත යුතුයි. දුක යනු නිරන්තරයෙන්ම සන්තාපයට පත්කර වන, සංවේදී බවට මුල්වන බරක්, භයක්, බැම්මක් බව යථාපරිදි දැනගත යුතුයි. දුක යනු නිරන්තරයෙන් ම යමක් විපරිණාමයට පත්වන, වෙනස් වන ස්වභාවය නිසාම උරුම වන්නක් බව යථාපරිදි තේරුම් ගත යුතුයි.

සමුදයස්ස ආයුහනට්ඨෝ අභිඤ්ඤෙයිය (කර්ම බීජ සකස් වන බව)

සමුදයස්ස නිදානට්ඨෝ අභිඤ්ඤෙයිය (කර්ම බීජවලට නිදාන වන බව)

සමුදයස්ස සංයෝගට්ඨෝ අභිඤ්ඤෙයිය (සංයෝජන බිහි වන බව)

සමුදයස්ස පලිබෝධට්ඨෝ අභිඤ්ඤෙයිය (පලිබෝධයක් බව)

| | |
|---|---|
| සමුදය යනු | ආයුහනය කර්ම බීජ සකස් වීමක්, සං උපත ලැබීමක්, රාග ද්වේෂ මෝහ උපත ලැබීමක් යන අර්ථයෙන් යථාපරිදි අවබෝධ කරගත යුතුයි. |
| සමුදය යනු | නිදාන හේතුවක්, පටිච්ච වීමක් නිසා ම සිතක හටගත් කැමැත්තක් මුල්කොට ගෙනම බිහි වූවක් බව යථාපරිදි අවබෝධ කර ගත යුතුයි. |
| සමුදය යනු | සංයෝජන ධර්මයක්, දස සංයෝජනයන් බිහිවීමට උපකාර වන සංඛාරයක් බව යථාපරිදි අවබෝධ කරගත යුතුයි. |
| සමුදය යනු | සිතක මතුවන පලිබෝධයක් බව නිවැරදිවම යථාපරිදි අවබෝධ කර ගත යුතුයි. |

නිරෝධස්ස නිස්සරණට්ඨෝ අභිඤ්ඤෙයියං (නිස්සරණය)

නිරෝධස්ස විවේකට්ඨෝ අභිඤ්ඤෙයියං (විවේක නිශ්‍රිත)

නිරෝධස්ස අසංඛතට්ඨෝ අභිඤ්ඤෙයියං (අසංඛත)

නිරෝධස්ස අමතට්ඨෝ අභිඤ්ඤෙයියං (නිවන)

| | |
|---|---|
| නිස්සරණ යනු | නිස්සරණ අර්ථයෙන්ම නිරෝධය යථාපරිදි දැන ගත යුතුයි. සංසාර රිය ගමනෙන්, සැරි සැරීමෙන් මිදී නිදහස් වීම යන අර්ථයෙන් ම බව තේරුම් ගත යුතුයි. |
| විවේකය යනු | විවේක අර්ථයෙන්ම නිරෝධය යන්නෙහි අර්ථය යථාපරිදි අවබෝධ කර ගත යුතුයි. ක්‍රියා හයක වේගයෙන් වෙන් වීම බවද දැන ගත යුතුයි. ඇසින් කරන ක්‍රියාව, කනෙන් කරන ක්‍රියාව, නාසයෙන්, දිවෙන්, කයෙන් කරන ක්‍රියාව මෙන්ම මනසින් කරන ක්‍රියාවන් නිසා විඤ්ඤාණ ශක්තිය උපදින බව දැක ඒ ක්‍රියා හයම පාලනය කර ගැනීමෙන් විවේක අර්ථයෙන් නිරෝධය තේරුම් ගත යුතුයි. |

| | |
|---|---|
| අසංඛත යනු | අසංඛත අර්ථයෙන් ම නිරෝධය යථාපරිදි තේරුම් ගත යුතුයි. මෙතන ක්‍රියාව යන්න සංඛාර බවද දැනගත යුතුයි. සංඛාරයකට පටළැවීම නවතාගත හොත්, ක්‍රියා සිතක් පමණක් පැවැත්වුවහොත්, අසංඛත අර්ථයෙන් නිරෝධ වීම තේරුම්ගත යුතුයි. |
| අමතට්ඨෝ යනු | අමතට්ඨෝ යන අර්ථයෙන්ම නිරෝධය තේරුම් ගත යුතුයි. මත් වීම, මදයට ප්‍රමාදයට හේතුව තේරුම් ගෙන අමත (මත අත්හැරීම) යන අර්ථයෙන්ම, අප්පමාද යන අර්ථයෙන්ම, නිරෝධය තේරුම් ගත යුතුයි. රාගයෙන්, කාමයෙන් මත්වීම සංසාර රිය ගමනට පාදක වන හේතුවයි. අවිද්‍යාව, තණ්හාවට නිදාන වන හේතුවයි. "අමත" යනු, මතෙන් තොර යන අර්ථයෙන්ම නිරෝධය තේරුම් ගත යුතුයි. මජ්ඣිමා යන අර්ථයයි. |

මේ අනුව අනතිවත්තන භාවනා ක්‍රමය, සමථ විපස්සනා යන භාවනා ක්‍රම දෙකටම පොදු වූ ඉතාමත් වැදගත්, නිවනට නිවැරදිවම උපකාර වන, උපකාර කර ගත යුතු භාවනා ක්‍රමයයි. මෙම භාවනා ක්‍රමයේ භාවනා කළයුතු, භාවිත කළ යුතු සියලුම කර්මස්ථාන ආන - පාන මූල ධර්මයට අනුගත වීම ප්‍රධානතම ලක්ෂණයයි.

ආන යනු ආශ්‍රය කළ යුතු - ඇතුළට ගත යුතු දේ පෙන්වා දීමයි
පාන යනු බැහැර කළ යුතු - ප්‍රහාණය කර ඉවත් කළ යුතු දේ පෙන්වා දීමයි

මේ සඳහා ආශ්‍රය කළ යුතු හා බැහැර කළ යුතු දේ පෙන්වූ කර්මස්ථාන මේ ආකාරයෙන් තේරුම් ගත යුතුයි. අස්ස - පස්ස විග්‍රහය

| | | | |
|---|---|---|---|
| 1. | අනිච්චානුපස්සනා | - | නිච්ච සඤ්ඤං පජහතෝ (ප්‍රහාණය) |
| 2. | දුක්ඛානුපස්සනා | - | සුඛ සඤ්ඤං පජහතෝ |
| 3. | අනත්ථානුපස්සනා | - | අත්ථ සඤ්ඤං පජහතෝ |
| 4. | නිබ්බිදානුපස්සනා | - | නන්දිං පජහතෝ (අභිනන්දනය) |
| 5. | විරාගානුපස්සනා විහරති | - | රාගං පජහතෝ |
| 6. | නිරෝධානුපස්සනා විහරති | - | සමුදයං පජහතෝ |
| 7. | පටිනිස්සග්ගානුපස්සනා විහරති | - | ආදානං පජහතෝ (උපාදානය) |
| 8. | ඛයානුපස්සනා විහරති | - | ඝන සඤ්ඤං පජහතෝ |
| 9. | වයානුපස්සනා විහරති | - | ආයුහනං පජහති (කර්ම සකස් කිරීම) |
| 10. | විපරිණාමානුපස්සනා විහරති | - | ධුව සඤ්ඤං පජහතෝ |
| 11. | අනිමිත්තානුපස්සනා විහරති | - | නිමිත්තං පජහතෝ |
| 12. | අප්පණිහිතානුපස්සනා විහරති | - | පණිධිං පජහතෝ |
| 13. | සුඤ්ඤතානුපස්සනා විහරති | - | අභිනිවේසං පජහතෝ |
| 14. | අධිපඤ්ඤා ධම්ම විපස්සනා විහරති | - | සාරාදානාභිනිවේසං පජහතෝ |
| 15. | යථාභූත ඤාණ දස්සනං විහරති | - | සම්මෝහාභිනිවේසං පජහතෝ |
| 16. | ආදීනවානුපස්සී විහරති | - | ආලයාභිනිවේසං පජහතෝ |
| 17. | පටිසංඛානුපස්සී විහරති | - | අප්පටිසංඛං පජහතෝ |
| 18. | විවට්ටානුපස්සී විහරති | - | සංයෝගාභිනිවේසං පජහතෝ |

මෙම විපස්සනා කර්මස්ථාන මාලාවේ, සෑම පියවරකදී ම ආන - පාන (අස්ස - පස්ස ) කොටස් දෙකම ඉතාම පැහැදිලිව අවබෝධ කරගත හැකි ආකාරයෙන්ම පෙන්වා දී ඇත. මෙහිදී කළු ධර්ම ප්‍රහාණය කිරීමත්, සුදු ධර්ම ආශ්‍රය කිරීමත් කළයුතු බවත් ඉතාමත් පැහැදිලි කරුණකි. නිවන යනු තමා තුළම මෙතෙක් කල් මුල් බැසගෙන පැවති කෙළෙස් (කළු ධර්ම) බැහැර කර දමා, ඒ වෙනුවට සුදු ධර්ම චිත්තසංථානය තුළට ගැනීමයි. සුදු ධර්ම කිසිවිටෙකත් සසර දික් කරන කර්ම බීජ සකස් කරන විඤ්ඤාණ ශක්තිය උත්පාදනය කරන ඒවා නොවේ. ආසව නොවේ. සුදු ධර්ම කිසිවිටෙකත් ඇලීමට, බැඳීමට ගැටීමට මුල් නොවන නිසා ඒවා "අනුප්පාදෝ" ධර්මයෝමයි. අනුප්පාදය, නිබ්බානං තත්ත්වයයි.

## 2. ඉන්ද්‍රියානං ඒකරසට්ඨෙන භාවනා

පෘථග්ජන පුද්ගලයෙකුගේ සිත නිරන්තරයෙන්ම විසුරුණු ස්වභාවයෙන් යුතු වූ කැළඹිලි ගතියෙන් යුතු වූ සිතක් ලෙසින්ම පවතී. මෙය "වික්ඛේප" සිතක් ලෙසින් ධර්මයේ පෙන්වා දී ඇත. සිත වික්ඛේප තත්ත්වයට පත්වීමට හේතුව පංචකාම නීවරණ ධර්මවලින් ආවරණය වී, මුවහ වී පැවතීමයි. කාමච්ඡන්දය, ව්‍යාපාදය, ථීනමිද්ධය, උද්ධච්චය, විචිකිච්චාව යන පංචකාම නීවරණ ධර්ම නිසා පිරිසිදු සිතක් කෙළෙස්වලින් වැසීයයි. කෙළෙස්වලින් වැසී, මුවහ වූ සිතක් නිරන්තරයෙන්ම භයට පත්වන, කම්පනයට පත්වන, වේදනාවට පත්වන, අසහනයට පත්වන නොසන්සුන් සිතකි. එවන් සිතක් උද්ධච්ච ගතියෙන් යුක්තය. මොහොතින් මොහොතම වෙනස් වන්නා වූ එවන් සිතකින් භාවනා කර්මස්ථාන වැඩීමක් කළ නොහැකියි.

ඉන්ද්‍රියයන් හය සංවර කරගැනීමෙන් ම ඒකරසට්ඨ තත්ත්වයට පත්කර ගත හැකිය. මේ සඳහා සමථ භාවනා කර්මස්ථානයන් භාවිතා කර සිත එකඟ කර ගැනීම ඒකරසට්ඨ භාවනාවයි. මේ සඳහාද භාවිතා කළ යුත්තේ ආන - පාන (අස්ස - පස්ස ) භාවනා කර්මස්ථානයෝමයි.

මේ සඳහා භාවිතා කළ යුතු භාවනා කළයුතු ආන - පාන භාවනා කර්මස්ථාන පහත දැක්වෙන පරිදි දැක්විය හැකිය.

1. කාමච්ඡන්දය ප්‍රහාණය කර - නෙක්ඛම්ම වශයෙන් සිත ඒකරසට්ඨ කිරීම
2. ව්‍යාපාදය ප්‍රහාණය කර - මෙත් සිත (අව්‍යාපාදය) වශයෙන් සිත ඒකරසට්ඨ කිරීම
3. ථීනමිද්ධ ප්‍රහාණය කර - අලෝක සංඥා වශයෙන් සිත ඒකරසට්ඨ කිරීම
4. උද්ධච්චය ප්‍රහාණය කර - අවික්ඛේප වශයෙන් සිත ඒකරසට්ඨ කිරීම
5. විචිකිච්චාව ප්‍රහාණය කර - ධම්මවවත්ථාන වශයෙන් සිත ඒකරසට්ඨ කිරීම
6. අවිද්‍යාව ප්‍රහාණය කර- ඥාණයන් මතුකර ගැනීම
7. පංචකාමයන් ප්‍රහාණය කර - පළමුවැනි ධ්‍යානයට පත්වීම (පළමුවන ධ්‍යානයේදී සවිතක්ක, සවිචාර, ප්‍රීති, සුඛ, ඒකාග්ගතා මතුවෙයි)
8. සවිතක්ක සවිචාර ප්‍රහාණය කර - දෙවැනි ධ්‍යානයට පත්වීම
9. ප්‍රීතියද ප්‍රහාණය කර - තුන්වැනි ධ්‍යානයට පත්වීම
10. සුඛයද ප්‍රහාණය කර - උපේක්ඛා, ඒකාග්ගතා සහිත සතරවන ධ්‍යානයට පත්වීම

11. රූප සඤ්ඤා, පටිඝ සඤ්ඤා, නානත්ත සඤ්ඤා පහකර ආකාසානඤ්ඤායතන ධ්‍යානයට පත්වීම
12. ආකාසානඤ්ඤායතන යටපත් කරමින් - විඤ්ඤාණඤ්ඤායතනයට පත්වීම
13. විඤ්ඤාණඤ්ඤායතනය යටපත් කරමින් - ආකිඤ්ඤාණඤ්ඤායතනයට පත්වීම
14. ආකිඤ්ඤාණඤ්ඤායතනය යටපත් කරමින් - නේවසඤ්ඤා නාසඤ්ඤායතනයට පත්වීම

මෙම ක්‍රමය සමථ භාවනාව තුළින් ධ්‍යාන ලබා අභිඥා ලබා ගැනීමේ ක්‍රමයයි. ධ්‍යානයන් ලබාගෙන, අභිඥා ලබාගෙන, දෙවනුව මාර්ග ඵලයට පත් වන්නට කැමති වූ කෙනෙකුට පළමුවෙන් ම සමථ භාවනාව ප්‍රගුණ කර, ධ්‍යානයන් ලබා, පසුව විපස්සනා භාවනා කර්මස්ථානයන් භාවනා කර නිවන් මග ඵලයන්ද ලබාගත හැකියි. මෙය බොහෝ කල් ගතවන ක්‍රමයකි. මේ ක්‍රමය සමථ පුබ්බංගම විපස්සනා භාවනා ක්‍රමයයි.

3. තදුපගවිරියවාහනට්ඨෙන භාවනා ක්‍රමය

මෙයද බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළ සමථ හා විපස්සනා භාවනා ක්‍රම දෙකට ම පොදු වූ භාවනා ක්‍රමයකි. යුගනද්ධ භාවනාව භාවිතා කරන කෙනෙකුට මාර්ග ඵලයන් ඉක්මණින් ලබාගන්නටත්, ආසවක්ඛයා ඥාණය දියුණු කරගෙන සමථ විපස්සනා දෙක සමව ඉදිරියට ගෙන යන්නටත් මේ භාවනා ක්‍රමය උපකාර වෙයි. මෙහිදී වෙනම කර්මස්ථාන භාවනා කිරීමක් අවශ්‍ය නැති අතර සමථය හා විපස්සනාව සඳහා භාවිතා කළයුතු කර්මස්ථානයක් ම භාවනා කළ යුතුයි.

4. ආසේවනට්ඨේන භාවනා ක්‍රමය

මෙම භාවනා ක්‍රමයේදී සතර ඉරියව්වේදීම සතර සතිපට්ඨානයේ පිහිටා ක්‍රියා කිරීමේ හැකියාව, ශක්තිය, පුරුද්ද මනාකොට ප්‍රගුණ කරගත යුතුයි. ආසේවති, භාවේති, බහුලීකරෝති යනුවෙන් මෙය ධර්ම විග්‍රහයේදී පෙන්වා දී ඇත. අසා දැනගත්, අවබෝධ කරගත් ධර්මය අනුගමනය කරමින් මඟඵල ලබා ගැනීම සඳහා

1. ආවජ්ජන්තෝ - නැවත නැවතත් මාර්ගය ආවර්ජනය කර, අවබෝධය පූර්ණ කර ගැනීමට උත්සාහ ගත යුතුයි.
2. ජානන්තෝ - අනුගමනය කිරීමට ධර්ම මාර්ගයම යථාපරිදි දැනගත යුතුයි. අවබෝධය පූර්ණ කරගත යුතුයි.
3. පස්සන්තෝ - යෝනිසෝමනසිකාරයෙන් යුතුව ප්‍රහාණය කළ යුතු කෙළෙස් පිරිසිඳ දැක ගත යුතුයි.
4. පච්චවෙක්ඛන්තෝ - ප්‍රත්‍යවේක්ෂා නුවණින් පසුවිපරම් කර බලා, තමා තුළම පවතින කෙළෙස් ගති දැක මතුකර ප්‍රහාණය කර ගත යුතුයි.
5. චිත්තං අධිට්ඨහන්තෝ - ප්‍රහාණය කළ යුතු කළු ධර්ම ප්‍රහාණය කිරීමටත් ඒ වෙනුවට සුදු ධර්ම ආශ්‍රය කිරීමටත් ඇලීම, ගැටීම දුරලා, උපේක්ඛා තත්ත්වයෙන් ක්‍රියා කිරීමටත් පටන් ගත යුතුයි.

6. සද්ධාය අධිමුච්චන්තෝ - ශ්‍රද්ධා ඉන්ද්‍රිය, ශ්‍රද්ධා බලයන් සිත තුළ ක්‍රියාත්මක වීමට පටන් ගැනීම නිසා මෙතෙක් කලක් අසද්ධාවෙන් කම්පා වුණ ස්වභාවයෙන් පැවති සිත සද්ධාව නිසා කම්පා නොවන, අකම්පියට්ඨේන තත්ත්වයෙන් බලවත් වෙයි.

7. විරියං පග්ගණ්හන්තෝ - විරිය ඉන්ද්‍රිය, විරිය සිත තුළින් මතු වී ක්‍රියාත්මක වීමට පටන්ගෙන මෙතෙක් කලක් කුසීතකමෙන්, කම්පාවන ස්වභාවයෙන් පැවති සිත (අකම්පියට්ඨේන) කම්පා නොවන, විරිය බලය ලෙසින් වර්ධනය වෙයි.

8. සතිං උපට්ඨපෙන්තෝ - සති ඉන්ද්‍රිය, සති බලය ක්‍රියාත්මක වී මෙතෙක් ප්‍රමාදයෙන් කම්පනයට පත් වූ සිත අප්‍රමාදයෙන් අකම්පන තත්ත්වයට පත්වන, කම්පා නොවන තත්ත්වයට පත්වෙයි. හේතුඵල දෙකම දැක ප්‍රමාදයට හේතු ඉවතලා ක්‍රියා කරයි.

9. චිත්තං සමාදහන්තෝ - සමාධි ඉන්ද්‍රිය, සමාධි බලය මතු වී ක්‍රියාත්මක වීමත් සමඟ ම මෙතෙක් උද්ධච්චයෙන් කම්පනයට පත් වූ සිත දැන් උද්ධච්චයෙන් ඉවත් වී, අකම්පිත තත්ත්වයෙන් ම සමාධිගත වෙයි. චිත්ත සමාධියක පිහිටයි.

10. පඤ්ඤාය පජානන්තෝ - පඤ්ඤා ඉන්ද්‍රිය, පඤ්ඤා බලය ක්‍රියාත්මක වීමෙන් කෙළෙස් ප්‍රහාණය කර මනස අකම්පිය තත්ත්වයට පත් වීමෙන් ක්‍රියාත්මක වෙයි. චිත්තය පිරිසිදු වී ප්‍රකෘති තත්ත්වයට පත්වෙයි. මේ පංච ඉන්ද්‍රියයන්, පංච බලයන් ක්‍රියාත්මක වී
    - අවබෝධ කරගත යුතු දේ අවබෝධ කරගැනීමටත් (අභිඤ්ඤෙය්‍යයං)
    - දැක ගත යුතු දේ පිරිසිඳ දැක ගැනීමත් (පරිඤ්ඤෙය්‍යයං)
    - භාවිත කළයුතු දේ තෝරා භාවිතා කිරීමත් (භාවේතබ්බං)
    - බැහැර කළයුතු දේ දැන හැඳින, බැහැර කර නිදහස් වීමත් සමඟම (පහාතබ්බං)

    සත්‍යාවබෝධය ප්‍රත්‍යක්ෂ වෙයි. (සච්ඡිකාතබ්බං)

මේ අනුව, "සංයෝජනා පහීයන්ති, ආසව අනුසයා බයා හොන්ති" තත්ත්වයට පත්වෙයි.

i. සෝතාපත්ති මාර්ගය සම්පූර්ණ වී සෝතාපත්ති ඵලයට පත්වෙයි.
ii. සකෘදාගාමී මාර්ගය සම්පූර්ණ වී සකෘදාගාමී ඵලයට පත්වෙයි.
iii. අනාගාමී මාර්ගය සම්පූර්ණ වී අනාගාමී ඵලයට පත්වෙයි.
iv. අරහත් මාර්ගය සම්පූර්ණ වී අරහත් ඵලයට පත්වෙයි.

ඉන්ද්‍රියය ධර්මයන් හා බල ධර්මයන් ක්‍රියාත්මක නොවූ කාලයකදී නිරතුරුවම සිත කම්පනයට, තැති ගැනීමට, අසහනයට, වේදනාවට, කැළඹීමට පත් වූවත් දැන් සමථයට පත් වූ සිත විපස්සනා වැඩීම සඳහා හේතුඵල ධර්මයට බහා ගළපා, ඉවසා විමසා, තෝරා බේරා ප්‍රඥාවෙන් ක්‍රියා කරන්නට වීම නිසා සති සම්බොජ්ජංගයේ පටන් සත්ත සම්බොජ්ජංගයම ක්‍රියාත්මක වී පැවැත්ම පිළිබඳව, ජීවත්වීම පිළිබඳව යථා තත්ත්වය සම්පූර්ණයෙන් ම අවබෝධ වී, බිහි කිරීමට උපකාර වූ විඤ්ඤාණ ශක්තීන් ප්‍රහාණය කර, කෙළෙස් ප්‍රභවය කිරීමේ (සංභව ශක්තිය) ක්‍රියාකාරීත්වයෙන් බැහැර වෙයි. භව නිරෝධ වෙයි. භව අනුත්පාද වෙයි.

සම්මා අංගයන් අටමත් සම්පූර්ණ වී, සම්මා ඥාණ හා සම්මා විමුක්ති පරිපූර්ණ වීමෙන් නිවන් සුවයට පත් වෙයි. සමථ, විපස්සනා භාවනා ක්‍රම දෙකම එකවිට යුගනද්ධ වශයෙන් භාවනා කිරීමෙන්, එක දිගටම භාවිතා කිරීමෙන්, බහුල ලෙසින් ම භාවනා කිරීමෙන් (සේවිතාය, භාවිතාය, බහුලීකථාය) යථාභූත ඥාණ දර්ශනය ලැබෙයි. යථාභූත ඥාණ දර්ශනය ලැබූ අරිය උත්තමයා අබමල් රේණුවක තරම්වත් රාගයෙන් ඇලීමේ සංඛාර සිතකින් කටයුතු නොකරයි. තවත් කෙනෙකු කෙරෙහි ද්වේෂයෙන් කිසිවිටෙකත් ක්‍රියා නොකරයි. සිතේ ගැටීමේ සංඛාර මතු නොවෙයි.

මමත්වයෙන්, මානයෙන්, අවිද්‍යාවෙන් මම, මගේ, මගේ ආත්මය යන හැඟීමෙන් ක්‍රියා නොකරයි. "මම" යනු සකස් කරගත් සණ සංඥාවක්, හේතුඵල පරම්පරාවක් මිස නිච්ච සේ, සුඛ සේ, අත්ථ සේ පවතින දෙයක් නොවන බව යථාපරිදි දැක අවබෝධ කරගත් කෙනෙකු බවට ම පත්වෙයි.

මේ තත්ත්වයට පත් වූ අරිය උත්තමයාට ධ්‍යානවලට පත් වීමේ හෝ ඍර්ධි ප්‍රාතිහාර්යය පෑමේ හෝ ලෝකයාට තමන් කවුදැයි ප්‍රකාශ කර පෙන්වා දීමේ හෝ කිසිඳු අවශ්‍යතාවයක් කැමැත්තක් ඇති නොවේ. ලැබූ නිදහස් වීමේ සුවය විඳිමින් ඉහාත්ම සුඛ විහරණයෙන් කල් ගෙවීමේ අගය දකියි.

යථාවබෝධයෙන්ම ධර්ම මාර්ගය අනුගමනය කරනු ලබන යුගනද්ධ වශයෙන් සමථ විපස්සනා භාවනා කරනු ලබන පුද්ගලයාට දැන හෝ නොදැනම ලැබෙන්නා වූ ඥාණයන් කිහිපයක් පිළිබඳවත් නම් වශයෙන්ම පෙන්වා දීම සුදුසුයි.

1. සම්මස්සන ඥාණය ("සං" දැක ගැනීමේ ඥාණයයි - සං විමර්ශණය)
   අතීත, අනාගත, වර්තමාන සියලු රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණයන්
   i. අනිච්ච වශයෙන් දැක, ඒවා නිච්ච ලෙසින් දැකීම මුළාවක් බව යථාපරිදි තේරුම් ගැනීමේත්,
   ii. දුක්ඛ වශයෙන් දැක, ඒවා සුඛයක් සේ දැකීම මුළාවක් බව යථාපරිදි තේරුම් ගැනීමේත්,
   iii. අනත්ථ වශයෙන් දැක, ඒවාට බැඳීම අනාථවන තත්ත්වයක් උදාවන බව මෙනෙහි කිරීමේ පිරිසිඳ දැකීමේත් නුවණ (වවත්ථානේ පඤ්ඤා) සම්මස්සන ඥාණයයි.

මේ ආකාරයෙන් ත්‍රිලක්ඛණය භාවනා කරන යෝගියාට අනිච්චං ඛය අර්ථයෙනුත්, දුක්ඛං භය අර්ථයෙනුත්, අනත්ථං අසාර අර්ථයෙනුත් වැටහෙන්නට පටන් ගනී. අතීත, අනාගත, වර්තමාන තුන් කාලයටම අදාළව අවිද්‍යා මූළයෙන් මතුවන සියලු සිත් අවිද්‍යා සංඛාර සිත් ම බවත් දැක ගන්නට පටන් ගනී. පැවැත්මේ නිසරු බව ප්‍රත්‍යක්ෂ කරගනී. අවිද්‍යාව මුල් නොවූ විට, අවිද්‍යාව නැති තැනක මතුවන සියලු සිත් "කාර" සිත් (ක්‍රියා සිත්) පමණක් බවත් දකී. මේ කරුණු යථාපරිදි මෙනෙහි කිරීමේ ශක්තිය සම්මස්සන ඥාණයයි. "සං" දැකගත්, ධම්මෝ සංදිට්ඨිකෝ තත්ත්වයට පත්වූවෙකුට සම්මස්සන ඥාණයද පහළවෙයි.

2. උදයව්‍යය ඥාණය

පච්චුප්පන්නානං (වර්තමානය) ධම්මානං විපරිණාමානුපස්සනේ පඤ්ඤා උදයබ්බයානුපස්සනේ ඥාණං - වර්තමාන මොහොත කෙරේ සිත පවත්වාගෙන සිටින විට, මොහොතින් මොහොතේ ම සිතෙහි මතුවන - රූප (ජාතං රූපං) ජනිත වීම තුළින්,

- නිබ්බත්ති ලක්ඛණං (අභිනව තත්ත්වයන්ට පත්වීමේ ලකුණු දැකීමත්)
- විපරිණාම ලක්ඛණං (වෙනස් වී, වැය වීම දැකීමත්) යන දෙයාකාරය අනුපස්සනා කිරීමේ ඥාණය උදය, වැය දැකීමේ ඥාණයයි. උදයවීම සිදුවන හේතු පහක් ඇත.
    i. අවිද්‍යාව නිසා රූප උදය වේ. (අවිජ්ජා සමුදය) උපත දකී.
    ii. තණ්හාව නිසා රූප උදය වේ. (තණ්හා සමුදය) උපතදකී.
    iii. කර්මය හේතුවෙන් රූප උදය වේ. (කම්ම සමුදය) උපත දකී.
    iv. ආහාර නිසා රූප උදය වේ. (ආහාර සමුදය) උපත දකී.
    v. පස්ස නිසා නිබ්බත්ති ලක්ඛණ උදය වේ. (පස්ස සමුදය) උපත දකී.

මේ කරුණු පහට අමතරව කිසිම දෙයක් රූප, වේදනා සංඥා, සංඛාර, විඤ්ඤාණ උපතට හේතු නොවේ.

| | | |
|---|---|---|
| i. | අවිද්‍යා නිරෝධො රූප නිරෝධෝ | - වැය වී යන බව දකී. |
| ii. | තණ්හා නිරෝධෝ රූප නිරෝධෝ | - වැය වී යන බව දකී. |
| iii. | කම්ම නිරෝධෝ රූප නිරෝධෝ | - වැය වී යන බව දකී. |
| iv. | ආහාර නිරෝධෝ රූප නිරෝධෝ | - වැය වන ආකාරය පසක්කොට දකී. |

මේ ආකාරයෙන් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන පංචස්කන්ධයම උදය හා වැය වෙන් කොට දකගැනීමේ ඥාණය උදය වැය ඥාණයයි.

3. විපස්සනා ඥාණය

ඇසට ප්‍රිය හෝ අප්‍රිය රූපයක් අරමුණු වූ සිතකට ඇලීමක්, බැඳීමක්, ගැටීමක්, මානයක් ඇති වන බවත් ඒ ගතිය භංගකර අනිච්ච, දුක්ඛ, අනත්ථ වශයෙන් මෙනෙහි කර, ප්‍රත්‍යවේක්ඛා නුවණින් පටිච්චවීමේ ගතිය ප්‍රහාණය කළ හැකි බවත් තේරුම් ගැනීමේ නුවණ, විපස්සනා නුවණයි. මේ ආකාරයට පංචස්කන්ධය පිළිබඳවම උපාදානය කිරීමේ ගතිය විපස්සනා නුවණින් බැහැර කිරීම රාග විරාගයයි. උද්ධච්චයට හේතුවන වික්ඛේප ගතිය භංග කර සිත ඒකාග්ගතාවයට පත්කර ගැනීම සමථයයි. අවිද්‍යාව විරාග කර සිත තුළ ප්‍රඥාව උපදවා ගැනීම ප්‍රඥා විමුක්තියයි. මේ අනුව සමථ හා විපස්සනා දෙකම මෙහි අඩංගුයි.

4. ආදීනව ඥාණය

- පංච ආකාරේහි ආදීනවෝ හෝති
- අට්ඨාකාරේහි අවිජ්ජා නිරෝධෝ හෝති

භාවනානුයෝගියාට ඉතාමත් වැදගත් ඥාණයකි ආදීනව ඥාණය. භාවනානුයෝගියා අවිද්‍යාවෙහි ආදීනව පස් ආකාරයකින් දැක අවබෝධ කර ගත යුතුමයි.

i. අනිච්ච වශයෙන්, අනිච්ච අර්ථයෙන් ආදීනව දැකිය යුතුයි.
ii. දුක්ඛ වශයෙන්, දුක්ඛ අර්ථයෙන් ආදීනව දැකිය යුතුයි.
iii. අනත්ථ වශයෙන්, අනාථ අර්ථයෙන් ආදීනව දැකිය යුතුයි.
iv. සංතාප වශයෙන්, සංතාප අර්ථයෙන් ආදීනව දැකිය යුතුයි.
v. විපරිණාම වශයෙන්, විපරිණාම අර්ථයෙන් ආදීනව දැකිය යුතුයි.

| | | |
|---|---|---|
| අනිච්ච | - | කැමති සේ පැවැත්විය නොහැකි, රිසි සේ, මනාප සේ නොපවතින දෙයක් බව දැකිය යුතුයි. (න නිච්චං) |
| දුක්ඛ | - | කැමැත්ත අනුව පැවැත්විය නොහැකි නම්, දුකම උරුමකර දෙන දෙයක් බව දැකිය යුතුයි. (න සුඛං) |
| අනත්ථ | - | දුකම උරුම කර දෙන්නක් නම් නියත වශයෙන්ම අනාථ තත්ත්වයට පත්කරවන්නක් බවත් (න අත්ථ) සන්තාපයට පත්කරවන්නක් බවත්, සංඛතය විපරිණාමයට පත් වී වැනසී යන බවත් දැකීම ආදීනව ඥාණයයි. |

අට ආකාරයකින් අවිද්‍යාව නිරෝධ කිරීමේ දැනුම හා හැකියාව ද ආදීනව ඥාණයයි.

i. නිදානය නිරෝධ කිරීමෙන් අවිද්‍යාව නිරෝධ කළහැකි බව
ii. සමුදය නිරෝධ කිරීමෙන් අවිද්‍යාව නිරෝධ කළ හැකි බව
iii. ජාති (උප්පජ්ජති) නිරෝධයෙන් අවිද්‍යාව නිරෝධ කළ හැකි බව
iv. ප්‍රභව (සංභව) බීජය සකස්වීම නිරෝධයෙන් අවිද්‍යාව නිරෝධ කළ හැකි බව
v. හේතුව නිරෝධ කිරීමෙන් අවිද්‍යාව නිරෝධ කළ හැකි බව
vi. ප්‍රත්‍ය නිරෝධයෙන් අවිද්‍යාව නිරෝධ කළහැකි බව
vii. ඥාණයන් උපද්දවා ගැනීමෙන් අවිද්‍යාව නිරෝධ වන බව
viii. නිරෝධ පට්ඨානයෙන්ම අවිද්‍යාව නිරෝධ වන බව

මෙසේ පස් ආකාර වූ ආදීනවයෝ දැක, අට ආකාර වූ නිරෝධ කළ යුතු කරුණුද දැකගත් පුද්ගලයා ඒ මග අනුගමනය කිරීමෙන් ආශ්‍රය කළයුතු දේ මෙන්ම ප්‍රහාණය කළයුතු දේ (අස්ස පස්ස) දැක ඒ අනුව ශික්ෂණයට පත් වෙයි. මේ අනුව ආදීනව ඥාණය යන්න නිවන් මාර්ගය අනුගමනය කරන කෙනෙකුට ඉතාමත් ම වැදගත් ඥාණයකි.

5. සංඛාරුපෙක්ඛා ඥාණය

ආදීනව ඥාණය අවබෝධ වූ තැනැත්තාට,

"උප්පාදෝ භයං අනුප්පාදෝ සුඛං
උප්පාදෝ ආමිසං අනුප්පාදෝ නිරාමිසං
උප්පාදෝ සංඛාරං අනුප්පාදෝ නිබ්බානං"

වශයෙන් කරුණු අවබෝධ වීමත් සමඟම සංඛාර පැවැත්ම ම, සියලු දුක්, සියලු භය, සියලු ආසව උත්පත්තියට මුල් වූ හේතුව බව යථාපරිදි අවබෝධ කර සංඛාර උපේක්ඛා ඥාණයෙන් සළකා අනිච්ච බව, දුක්ඛ බව, අනත්ථ බව තේරුම් ගැනීමේ නුවණයි.

යමක් එකතු කරන්නට කරණු ලබන සියලුම ක්‍රියා සංඛාර බවත් සංඛාර නිසාම උපත, පැවැත්ම, නිමිත්ත, පටිසන්ධි ආදිය සියල්ලම සිතේ බිහි වන බවත් දැක සංඛාර උපෙක්ඛා ඥාණයෙන් ඒවායෙහි නොවටිනා බව, අසාරවත් බව, නිස්සාර බව, දැකීම සංඛාර උපේක්ඛා ඥාණයයි. සංඛාර සිත් නිස්සාර බව දැකීම සංඛාර උපේක්ඛා ඥාණයයි. සංඛාර සිත් කෙරෙහි උපේක්ඛාවෙන් ම බැලීමට පුරුදු වීමයි.

අනිමිත්ත සමාපත්තියට, අප්පනිහිත සමාපත්තියට පත්වීමට උපකාර වන්නේද සංඛාර උපේක්ඛා ඥාණයමයි. මුංචිතුකම්මතා ඥාණය යන්න ද සංඛාර උපේක්ඛා ඥාණයට ම භාවිතා කරන නමකි. මුංචිතුකම්මතා ඥාණය යනු අවබෝධය ලැබීම නිසා කැමැත්තෙන්ම මුදනු හැකි, මිදී අතහරිනු හැකි, උපේක්ඛා සිතින් ඉවසා විමසනු ප්‍රත්‍යවේක්ෂා කරනු යනුවෙන් වදාළ ගුණයන් පිහිටීමේ ඥාණයයි. මෙසේ කැමැත්තෙන්ම මුදවා අතහරිනු ලබන්නේ රාගය ද්වේෂය හා මෝහය යන කෙළෙස් ගති තුනයි.

සංඛාර උපෙක්ඛා ඥාණය පෘථග්ජන පුද්ගලයාට එක් අයුරකින් ද මගඵල සම්පූර්ණ කරන ලද අසේඛ වූ අරහතුන්වහන්සේට තවත් අයුරින්ද අවබෝධය ලැබෙන බවත් ධර්මයේ ම පෙන්වා දී ඇත.

විවිධ අරමුණුවලට අදාළව අනිච්චතෝ, දුක්ඛතෝ, අනත්ථතෝ අනුපස්සනා කිරීමෙන් ම නිච්ච, සුඛ, අත්ථ සංඥා ප්‍රහාණය කරමින්ම චිත්තසංථානය පිරිසිදු කර සංඛාර උපෙක්ඛා ඥාණය ප්‍රත්‍යක්ෂ කරගත යුතුයි. සංඛාර කිරීම නවතා ක්‍රියා සිත් පැවැත්වීමට ම සිත පුරුදු පුහුණු කරගත යුතුයි.

සමථ වශයෙන් ධ්‍යානයන් අටෙහිදීම ධ්‍යානපටිලාභයත් සමඟම නීවරණ දුරු වීමෙන් පටිසංඛාසන්තිට්ඨනා පඤ්ඤාවෙන්, සංඛාර උපෙක්ඛා ඥාණය ලබාගනී. අරිය ධ්‍යානයන් අටෙහිදීම සිත සමථ තත්ත්වයට පත් වීමෙන් මෙය සිදු වෙයි.

විපස්සනා වශයෙන් අවස්ථා දහයකදී පටිසංඛාසන්තිට්ඨනා, සංනිසීදතී, සම්මාදියති වශයෙන් සෝවාන් මාර්ගය හා ඵලය, සකෘදාගාමී මාර්ගය හා ඵලය, අනාගාමී මාර්ගය හා ඵලය, අරහත් මාර්ගය හා ඵලය, සුඤ්ඤත සමාපත්තිය හා සංඥා වේදයිත නිරෝධ සමාපත්තිය ද ලබා ගනී. මේ අනුව සංඛාර උපෙක්ඛා ඥාණය නිවන් මාර්ගයේ ඉතාමත් උතුම් අවස්ථාවක් බව තේරුම් ගත යුතුයි.

6. මග්ගේ මග්ග ඥාණං

මාර්ග ඥාණය යනු අරිය අෂ්ටාංගික මාර්ගය ලෝකෝත්තර වශයෙන් සම්පූර්ණ වීමයි.

i. දස්සන අර්ථයෙන් සම්මා දිට්ඨියට පත්වීම - "මිච්ඡා දිට්ඨියා වුට්ඨාති'' යනු වැරදි දැක්ම පෙරළා දමා නැඟී සිටීම යන අර්ථයයි. මිත්‍යා දෘෂ්ටිය, තදංගම වශයෙන් ද චිත්තසංථානයේ පවතින කෙළෙස් දෘෂ්ටී වශයෙන් පෙරළා දමා සම්මා දෘෂ්ටියට පත්වීම මෙහිදී සිදු වේ. තමාම එකතු කරගත් රාග, ද්වේෂ , මෝහ (සං) වලින් මිදී එවැනි කෙළෙස් සහමුළින් ම ගළවා දැමිය යුතු බව දැක ගැනීම සම්මා දිට්ඨියයි

ii. අභිනිරෝපන අර්ථයෙන් සම්මා සංකප්පයට පත්වීම - මිච්ඡා සංකප්ප ගළවා ඉවත් කර දමා යළිත් කෙළෙස් රෝපනය නොවන පරිද්දෙන් කාම විතර්ක, විහිංසා විතර්ක, පාප විතර්ක චිත්තසංථානයෙන් ගළවා දැමීම (බය කිරීම) සම්මා සංකප්පයයි.

iii. පරිග්ගහ අර්ථයෙන් සම්මා වාචාහි පිහිටා මිච්ඡා වාචා වුට්ඨාති - මිථ්‍යා වචනවලින් සහමුළින්ම ඉවත් වී වචී සංඛාර ක්‍රියා සිත් බවට පෙරළීම මෙහි අදහසයි.

iv. සමුට්ඨාන අර්ථයෙන් සම්මා කම්මන්තයෙහි පිහිටා මිච්ඡා කම්මන්ත වුට්ඨාති - සසර ගමනට හේතු වන සියලුම සංඛාරයන්ගෙන් සහමුළින් ඉවත්වීම මෙයින් අදහස් කෙරේ. කර්ම සකස් කිරීම, කර්ම බීජ නිපදවීම සඳහා මෙතෙක් කරන ලද සියලු කාය සංඛාර නවතා ක්‍රියා සිත් පමණක් පැවැත්වීමට පටන් ගනී.

v. වෝදාන අර්ථයෙන් සම්මා ආජීවයෙහි පිහිටා මිච්ඡා ආජීවෝ වුට්ඨාති (පෙරළා දමා නැඟී සිටීම යන අර්ථයෙනි).

vi. පග්ගහට්ඨේන වෙන් කිරීමේ අර්ථයෙන් සම්මා වායාමයෙහි පිහිටා, මිච්ඡා වායාමයෙන් වුට්ඨාති.

vii. උපට්ඨාන අර්ථයෙන් සම්මා සතියෙහි පිහිටා මිච්ඡා සති වුට්ඨාති - හේතුඵල දහමට බහා බලා ආසව, කෙළෙස් මුළින් ගළවා නැඟී සිටින අර්ථයෙන්, එළඹ සිටි සිහියෙන් ක්‍රියා කිරීම.

viii. අවික්ඛේප අර්ථයෙන් සම්මා සමාධියෙහි පිහිටා "මිච්ඡා සමාධි වුට්ඨාති" - සිතෙහි අවික්ඛේප ගතිය, නොවිසුරුණු නොකැළඹුණු ගතිය ඇති කර ගැනීමෙන් සමාධියෙහි පිහිටා ක්‍රියා කිරීමේ ශක්තියයි. මේ ආකාරයට සෝතාපන්න මාර්ගය, සකෘදාගාමී මාර්ගය, අනාගාමී මාර්ගය, අරහත් මාර්ගය යන සතර අවස්ථාවේදීම චිත්තසංථානයේ මෙතෙක් ගබඩා වී පැවති කෙළෙස් (සං) ප්‍රහාණය කර, මුළින් ගළවා දමා (වුට්ඨාති) ආසව බය කර දමා නිවන් මාර්ගය පූර්ණ කරගත යුතුයි.

ix. විමුක්ති ඥාණය - ජීන්නවට්ටමනුපස්සනේ පඤ්ඤා විමුක්ති ඥාණං. අධ්‍යාත්මිකව හා බාහිර වශයෙන් උපදින ක්ලේශ ධර්මයන් උපක්ලේශයන් (ඇලීම- ගැටීම- මුළාව) සමුච්ඡේද වශයෙන් ප්‍රහාණය කිරීම විමුක්ති ඥාණයයි.

x. අනුප්පාදෝ ඥාණං - කෙළෙස් ගති යළිත් සිතෙහි නැවත කවදාවත්ම නොඋපදන ලෙසින් ම අනිච්ච, දුක්ඛ, අනත්ථ යථාපරිදි අවබෝධ කරගත් පසුව රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කිසිවිටකත් පටිච්ච නොවන නිසාම විඤ්ඤාණ ශක්තියක් නොඋපදින කර්ම බීජ සකස් නොකරන තත්ත්වයටම සිත පත්වීම, අනුප්පාදෝ ඥාණයයි.

xi. පලක්ඛනේ ඥාණං - මාර්ග ඥාණය සම්පූර්ණ වීමත් සමඟම යථාභූත ඥාණ දර්ශනයෙන් සම්මා ඥාණ උපදවා පහදා ගැනීමත් සමඟම සම්මා විමුක්තියද සම්පූර්ණ වී, දස අංගේ සමන්නාගතෝ යන තත්ත්වයට පත් වී මාර්ග සතරත් ඵල සතරත් සම්පූර්ණ වී නිවන් සුවයට පත්වීමයි. මෙසේ සියලු සංයෝජන ධර්මවලින් නැවත නොඋපදින ලෙසින් ම මිදී නිදහස් වූ බවත් සියලු ආසව, අනුසය ධර්මයන් මුලින් උදුරා දමා, විමුක්ත වූ බවත් චිත්තසංථානය කර්ම බීජවලින් සහමුලින්ම නිදහස් වූ තත්ත්වයකට පත් වූ බවත් සහතික කොට දැකීම නිවන් සුවයයි.

කොතෙක් දුක් විඳිමින්, කොයි තරම් වීර්යයෙන් උත්සාහයෙන් ධුතාංග රකිමින් කොපමණ කාලයක් භාවනා කළත් යමෙකු අරිය ධර්මයේ පෙන්වා වදාළ නිවැරදි ආනාපානසති භාවනාව යන්නෙහි අර්ථය, ධර්මය, නිරුක්තිය තේරුම් නොගත්තේ නම් "ද්වතාව" තේරුම් නොගත්තේ නම් සීල, සමාධි, පඤ්ඤා යන ත්‍රිශික්ඛාවෙහි තිපරිවට්ටය යථාපරිදි අවබෝධ කර නොගත්තේ නම් ඔහුට බුද්ධ දේශණාවෙහි පෙන්වා වදාළ ධම්මානුධම්ම පටිපදාව සම්පූර්ණ නොවේ. අරිය මාර්ගයේ පෙන්වා වදාළ ප්‍රතිඵල ද නොලබයි.

අතීතයේදී කවදා කවුරුන් හෝ කෙසේ හෝ මාර්ග ඵල අවබෝධ කර නිවන් අවබෝධ කරගත්තේ නම් ඒ සෑම කෙනෙකුම බුද්ධ ආනාපානසති භාවනාව තුළින්ම සතර සතිපට්ඨානය ප්‍රගුණ කර සතර සතිපට්ඨානයේම පිහිටා මාර්ගය සම්පූර්ණ කරගත් අයම වේ. අනාගතයටද මෙම ධර්මතාවය වෙනස් නොවේ.

බුද්ධ දේශණාවට අයත් පටිසම්භිදා මග්ගප්ප්‍රකරණයේ සඳහන් ආනාපානසති විග්‍රහයේදී පහත සඳහන් ගාථාව දේශණාකර අනාපානාසතිය නිවැරදි ආකාරයටත් බුද්ධ දේශණාවට අනුවත් තේරුම් ගැනීමේ අවශ්‍යතාවය අවධාරණයෙන් ම පෙන්වා දී ඇත.

"ආනාපානසති යස්ස, පරිපුණ්ණා සුභාවිතා"
අනුපුබ්බං පරිචිතා යථා බුද්ධෙන දේසිතා
සෝ ඉමං ලෝකං පභාසේති
අබ්භා මුත්තෝව චන්දිමා" ති

මෙහි අර්ථය යම් කෙනෙක් බුද්ධ දේශණාවෙහි පෙන්වා වදාළ පරිදි විපස්සනා ක්‍රමයට භාවනා කළහොත් පූර්ණ වශයෙන් අනුගමනය කළොත් යථාභූත ඥාණ දර්ශනය ලබාගත හොත් හෙතෙම සියලු කෙළෙස් ධර්මයන්ගෙන් මිදී අරහත් මග ඵලයට පත් වන්නේ අඳුරු වළා පෙළින් මිදුණු පුන්සඳ බබලන්නාක් මෙනි යනුවෙනි.

ත්‍රිලක්ඛණ භාවනාව භාවිතා කිරීමෙන් යෝගියෙකුගේ චිත්තසංථානය තුළ "නව පාමොජ්ජ" මූලික ධර්මයන් ප්‍රගුණ වෙන ආකාරයද මෙහිදී පෙන්වා දීම කළ යුතුමයි.

රූපං අනිච්චා, රූපං දුක්ඛා, රූපං අනත්ථා, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ අනිච්චා, දුක්ඛා, අනත්ථා වශයෙන් භාවනා කර නිච්ච, සුඛ, අත්ථ සංඥා ප්‍රහාණය කිරීමේදී

1. අනිච්චතෝ මනසිකරෝතෝ - පාමොජ්ජං ජායති (සිතෙහි ප්‍රමෝදය ජනිත කරවයි).
2. පමුදිතස්ස - පීතිං ජායති (ප්‍රමෝද වූ සිතෙහි පීතිය ජනිත වෙයි).
3. පීතිමනස්ස - කායොපි පස්සම්භති (කය සංසිඳෙයි, කායානුපස්සනාව වැඩෙයි.)
4. පස්සද්ධිකායෝ - සුඛං වේදති (කායානුපස්සනාවෙන්, වේදනානු පස්සනාවද වැඩෙයි).
5. සුඛිනෝ චිත්තං සමාධියති ( චිත්තානුපස්සනාව ද වැඩෙයි).
6. සමාහිතෝ චිත්තෝ - යථාභූත ඥාණ දස්සනං ජායති පස්සති.
7. යථාභූතං ජානං පස්සං - නිබ්බින්දති (නිර්වේදයට, නොබැඳීමට පත්වෙයි).
8. නිබ්බිංදං විරජ්ජති (රාගයෙන් වෙන් වී, විරාග තත්ත්වයට පත්වෙයි).
9. විරාගං විමුච්චති (විමුක්ති ඥාණ දර්ශනයට පත්වෙයි).

මෙහි පෙන්වා වදාළේ විපස්සනා භාවනා (අනිච්ච දුක්ඛ අනත්ථ) කර්මස්ථානයන් දිගටම භාවනා කරගෙන යෑමේදී සතර සතිපට්ඨානයෙහි පිහිටා විමුක්ති ඥාණ දර්ශනයට පත්වෙන නිවැරදි නිවන් මාර්ගයයි. සැම කෙනෙකුම මේ නිවැරදි මඟ අනුගමනය කරමින් නිවන් සුවය අත්විඳ ගන්නටම ක්‍රියා කිරීමට අධිෂ්ඨාන කර ගත යුතුයි.

## ධම්මානුධම්ම ප්‍රතිපදාව ආනාපානසති භාවනාව ඇසුරින්

### මජ්ඣිම නිකායේ සඳහන් ආනාපානසති භාවනා ක්‍රමය

බුදුපියාණන් ආනාපානසති සූත්‍ර දේශණාව දේශණා කිරීමට මුල් වූ පසුබිමේ සඳහන් නිදාන කථාවද අසා දැන තේරුම් ගැනීම බෞද්ධ අබෞද්ධ කාටත් ප්‍රයෝජනවත් වෙනු ඇත. මජ්ඣිම නිකායේ අනුපද වර්ගයේ ආනාපානසති සූත්‍ර දේශණාවෙහිම ප්‍රකාශ කර දක්වන පරිදි එය මෙසේ සැකෙවින් විස්තර කර දෙමි.

එක්තරා පසළොස්වක පොහොය දිනක බුදුපියාණන් වැඩ සිටි මිගාර වනයට බුදුපියාණන් බැහැ දැකගනු පිණිස භික්ඛු සංඝයා වහන්සේලා විශාල වශයෙන් රැස්වූහ. සැරියුත්, මුගලන් දෙඅග සව්වන් සමඟ මහා කප්පිතේන, මහා චුන්ද, අනුරුද්ධ, රේවත, ආනන්ද ආදීන් තම තමන්ගේ ශ්‍රාවක භික්ඛූන්ද සමඟ පැමිණ මිගාර වනයෙහි සමවත් සුවයෙන් කමටහන් භාවනා කළහ.

එහි සිටි නවක භික්ඛූන්, මඟඵලලාභීන් සහ මහඅරහතුන් වහන්සේලාද දුටු බුදුපියාණන් විමසා සිටියේ "ඔබලා කුමන කර්මස්ථානයක් භාවනා කරමින් සිටිත්ද" යන්නයි.

"අපි සතර සතිපට්ඨානය වඩමින් සිටිමු. අපි සතර සම්මප්පදාන වඩමින් සිටිමු. අපි සතර ඍද්ධිපාද වඩමින් සිටිමු. අපි පංචබල භාවනාව වඩමින් සිටිමු. අපි සත්ත බෝජ්ජංග භාවනාව වඩමින් සිටිමු. අපි අෂ්ටාංගික මාර්ගය වඩමින් සිටිමුයි" බොහෝ අය පිළිතුරු දුන්හ.

තවත් කෙනෙක්, "අපි මෙත්තා භාවනාව වඩමින් සිටිමු. අපි කරුණා භාවනාව වඩමින් සිටිමු. අපි උපේක්ඛා භාවනාව වඩමින් සිටිමු. අපි අසුභ භාවනාව වඩමින් සිටිමු. අපි අනිච්ච සංඥා භාවනාව වඩමින් සිටිමු"යැයි පිළිතුරු දුන් සේක.

මේ සියල්ලම සාවධානව අසා සිටි බුදුපියාණන්වහන්සේ සියලු භික්ඛු සංඝයා වහන්සේලා රැස්කර විශේෂ දේශණයක් කරමින් ආනාපානසති සූත්‍ර දේශණාව වදාරා විග්‍රහ කර දුන් සේක. මෙසේ දේශණා කර විග්‍රහකර දුන් ආනාපානසති සූත්‍ර දේශණාව මීට පෙර භාවිතයේ තිබූ අනරිය වූත්, ලෞකික වූත් ආනාපානසති භාවනා ක්‍රමයට හාත්පසින්ම වෙනස් එකකි. එය අර්ථ ගැන්වූයේ අරිය විනයට ගැළපෙන පරිදි අර්ථ, ධර්ම, නිරුක්ති සහිතවය.

"සන්ති භික්ඛවේ, භික්ඛු ඉමස්මිං භික්ඛුසංඝේ ආනාපානසති භාවනානුයෝගමනුයුත්තා විහරන්ති. ආනාපානසති භික්ඛවේ, භාවිතා බහුලීකතා මහප්ඵලා හෝති මහානිසංසා. ආනාපානසති භික්ඛවේ භාවිතා බහුලීකතා චත්තාරෝ සතිපට්ඨානේ පරිපූරෙති. චත්තාරෝ සතිපට්ඨානා භාවිතා බහුලීකතා සත්ත බොජ්ඣංගේ පරිපූරෙන්ති සත්ත බොජ්ඣංගා භාවිතා බහුලීකතා විජ්ජාවිමුත්තිං පරිපූරෙන්ති."

මෙහි තේරුම :- "මහණෙනි මම ඔබලාට ආනාපානසති භාවනාව දේශණා කරමි. මෙය සියලු භාවනා ක්‍රමවලට වඩා පහසුවෙන් හා ඉක්මනින් සතර සතිපට්ඨානය සම්පූර්ණ කරගෙන සත්ත බොජ්ජංග සම්පූර්ණ කරගෙන විද්‍යා විමුක්තිය පූර්ණ කර ගතහැකි මහත්ඵල සහිත වූ මහානිසංස ඇති භාවනා ක්‍රමයකි. මෙයම වඩ වඩාත් භාවනා කරන්න. අනිකුත් සියලු භාවනා ක්‍රමවලින් ලබාගත හැකි ධ්‍යාන හා මාර්ගඵල මෙම ආනාපානසති භාවනාව තුළින් පහසුවෙන් හා ඉක්මණින් ලබාගත හැකිය. ඒ නිසා මේ අරිය භාවනා ක්‍රමය ඔබලාට නිර්දේශකර අනුදැන වදාරමි."

බුදුපියාණන් බුද්ධත්වයට පත්වීමේදී ද උපකාර කරගත්තේත්, භාවිතා කළේත්, මෙම ආනාපානසති අරිය භාවනා ක්‍රමයයි. මෙසේ එදා දේශණා කර වදාළ ආනාපානසති භාවනාව අතීතයේ පටන් පැවත ආ සම්මත ලෞකික ආනාපානසති භාවනා ක්‍රමයම නොවේ. මෙය අරහත් බවට පත්වූ සමහර ශ්‍රාවකයින් වහන්සේලා පවා දැන නොසිටි නිසා සියලුම භික්ඛු සංඝයා වහන්සේලා වෙත මෙය දේශණා කර ධර්ම අර්ථය මතුකර පෙන්වා දුන් බවත් ඉතාම පැහැදිළිය.

සංයුක්ත නිකායේ ආනාපාන සංයුක්තයේ බොහෝමයක් සූත්‍ර ධර්මවලද මෙම ආනාපානසති සූත්‍රය වරින්වර නැවත නැවතත් දේශණා කර වදාරා ඇත. එහි දැක්වෙන පරිදි බුදුපියාණන්වහන්සේ පවා වරින් වර තම ශ්‍රාවකයින්ගෙන් වෙන්වී මාසයක් දෙකක් තනිවම ආනාපානසති භාවනාවෙහි යෙදෙමින් ඉහාත්ම සුඛ විහරණය ලබා ගත්හ. මේ අනුව බලනවිට බුදුපියාණන්ම දේශණා කර පෙන්වූ පරිදි මෙම අරිය ආනාපානසති භාවනා ක්‍රමය අරහත් ඵල ලැබූ, මඟඵල ලැබූ සහ මඟඵල නොලැබූ, මඟඵල ලබන්නට උත්සාහ දරන යන තුන් කොටසටම සුදුසු වූ මහත්ඵල ලබාදෙන, මහානිසංස සහිත එකම භාවනා ක්‍රමයයි.

මෙම උතුම් භාවනා ක්‍රමයෙහි ධර්ම අර්ථයම අද නැවතත් සොයා මතුකර ගෙන අරිය භාවනාවක් ලෙසින් භාවිතයට ගන්නට මිනිසුන්ට මඟ කියාදිය හැකිනම් බොහෝ මිනිසුන්ට අද පවා නිවන් අවබෝධ කරගැනීමට නියත වශයෙන්ම වාසනාව ලැබෙනු ඇත. මේ අනුව ආනාපානසති සූත්‍ර දේශණාවෙහි සඳහන් ධර්ම අර්ථයම මතුකර තේරුම් ගැනීමට උත්සාහ කළ යුතුය.

"කථං භාවිතාච භික්ඛවේ ආනාපානසති කථං බහුලීකතා මහප්ඵලා හෝති මහානිසංසා. ඉධ භික්ඛවේ, භික්ඛු අරඤ්ඤගතෝ වා, රුක්ඛමූලගතෝ වා, සුඤ්ඤාගාර ගතෝ වා නිසීදති පල්ලංකං ආභුජිත්වා උජුං කායං පණිධාය පරිමුඛං සතිං උපට්ඨපෙත්වා සෝ සතෝව අස්සසති සතෝ පස්සසති"

මෙම පාඨයෙන් පෙන්වා විග්‍රහකර ඇත්තේ ආනාපානසති භාවනාව වඩන්නට උත්සාහ දරණ කෙනෙකු විසින් සම්පූර්ණ කරගත යුතු පූර්ව කොන්දේසි කිහිපයකි. මේවා ඉතා ප්‍රවේශමෙන් කියවා මෙහිදී බුදුපියාණන් ගෙනහැර පා වදාළ ධර්ම අර්ථයම අවබෝධ කරගත යුතුය. යම් කෙනෙකු භාවනාව ආරම්භ කරන්නට පෙර

1. අරඤ්ඤ ගත විය යුතුය.
2. රුක්ඛමූල ගත විය යුතුය.
3. සුඤ්ඤාගාර ගත විය යුතුය.

1. අරඤ්ඤගතෝවා යන පදයේ ලෞකික වශයෙන් සම්මත කරගත් අද භාවිතයේ පවතින අර්ථය මහ කැළෑවකට, වනාන්තරයකට ගොස් භාවනා කිරීමයි. එසේත් නැතිනම් කැළෑ ප්‍රදේශවල පිහිටි ආරණ්‍ය සේනාසනයකට ගොස් භාවනා කිරීමයි.

අරඤ්ඤගතෝවා යන පදයේ අරිය විනයේ එන ලෝකෝත්තර ධර්ම අර්ථය මීට හාත්පසින්ම වෙනස්ය. රඤ්ඤ යනු "රණබිම, යුධබිම" යන අර්ථයයි. අරඤ්ඤ යනු රණබිමෙන්, යුධබිමෙන් ඉවත් වූ යන අර්ථයයි. අද ගිහි ගෙදරක වාසය කරන හෝ පන්සලක වාසය කරන හැම කෙනෙකුම තමන් දැන හෝ නොදැන ජීවත්වන්නේ යුධබිමකය. රණබිමකය. තම සිත නිරන්තරයෙන්ම ගෙදර ප්‍රශ්න නිසා, අනෙක් ලෝකයාගේ ප්‍රශ්න නිසා, දේශපාලන ප්‍රශ්න නිසා යුධබිමක සිටින්නෙකුගේ තත්ත්වයට පත්වී අසහනයෙන්, ගින්නෙන් දැවි දැවී හැම මොහොතක්ම ගත කරයි. ගුවන් විදුලි යන්ත්‍ර, රූපවාහිනී යන්ත්‍ර, දුරකථන, පුවත්පත්, ඕපාදූප ආදී සියල්ලම සිත ගිනි අවුළුවන සිත යුධබිමක සිටින්නෙකුගේ ස්වරූපයට පත්කරන මූලාශ්‍රයෝය. තමන් මේ යුධ තත්ත්වයෙන් වෙන්වී තම සිත රණ තත්ත්වයෙන් අරණ තත්ත්වයට වෙනස් කරගෙන තම නිවස තුළම හෝ ගෙවත්තේම හෝ නිදහස් තැනක තැන්පත්වීම අරඤ්ඤගතෝවා යන වචනයේ ලෝකෝත්තර ධර්ම අර්ථයයි.

මහ කැළයකට හෝ වනයකට හෝ භාවනා මධ්‍යස්ථානයකට හෝ ගියත් තම සිත තුළ පැසවන්නේ සිත ගිනි අවුළුවන සුළු රාග, ද්වේෂ, මෝහ අරමුණු නම්, සිතුවිලි නම්

එතැන අරඤ්ඤ ගතවීමක් නැත. එතැන ඇත්තේ රණබිමක ස්වරූපයයි. මේ නිසා භාවනාවට සැරසෙන කෙනෙකු පළමු පියවර ලෙසින් තම සිත රාගයෙන් ඇලීමෙන්, ද්වේෂයෙන් ගැටීමෙන්, මෝහයෙන් මුළාවීමෙන් නිදහස් කරගෙන භාවනාව ආරම්භ කිරීම අරිය විනයේ අරඤ්ඤගතෝවා වීමයි.

2. රුක්ඛමූලගතෝවා යන පදයද ලෞකික හා ලෝකෝත්තර යන දෙයාකාරයෙන්ම තේරුම්ගත යුතුය. එහි අද භාවිතා කරන සම්මත ලෞකික අර්ථය කැළේ මහ ගසක් මුලට වී භාවනා කිරීමයි. නමුත් මෙහි ලෝකෝත්තර ධර්ම අර්ථය ඊට හාත්පසින්ම වෙනස්ය. රුක්ඛ යනු ආරක්ෂා වීමයි. සිත රැක ගැනීමයි. විඤ්ඤාණයෙන් ක්‍රියාත්මක වන සිතක් නිතරම ඇලීමට, ගැටීමට, මුළාවීමට කැමතිය. තම විඤ්ඤාණය නිරතුරුවම විවිධ ආකාරයේ මායා සිතුවිලි මවාපා ප්‍රිය මධුර දේ කෙරෙහි සිත අලවයි. නොසැලෙන, නොසෙල්වන චිත්ත ධෛර්යයකින් යුක්තව සිත රැක ගැනීම රුක්ඛමූලගතෝවා වීම යන්නයි. කාටවත් පළවා හරින්නට නොහැකි, කවුරුවත් බාධා නොකරන, වැස්සට, අව්වට ආරක්ෂා විය හැකි බාධා රහිත ස්ථානයක් භාවනාව සඳහා තෝරා ගැනීමද රුක්ඛමූලගතෝවා යන්නෙහිම ධර්ම අර්ථයයි.

3. සුඤ්ඤාගාරගතෝවා යන පදයේද ලෞකික සහ ලෝකෝත්තර අර්ථයන් දෙකක්ම ඇත. මේ අර්ථ දෙකම නිවැරදිව තේරුම් ගෙන ධර්ම අර්ථයෙන්ම සුඤ්ඤාගාරගතවීම භාවනාව කරගෙන යාමට උපකාර වෙයි. පාළු හිස් ගෙදරකට යාම හෝ මිනී කනත්තකට යාම, ගල් ගුහාවකට යාම, සුඤ්ඤාගාර ගතවීමක් ලෙස අද සම්මතයේ භාවිතා වෙයි. සුඤ්ඤාගාරගතෝවා යන්නෙහි ධර්ම අර්ථය තමාගේ සිත තුළම ඇති කරගත යුතු නිදහස් තත්ත්වයකට සිත පත්කර ගැනීමයි. රණබිමෙන් තොර වූ අරඤ්ඤගත වීමෙන් පසුව රුක්ඛමූලගතවීමෙන් පසුව සිත චංචල නොවන, භාවනාවට සුදුසු නිදහස් තත්ත්වයකට සිත පත්කරගත හැකිවෙයි. අතීතයේ තමන්ම එකතු කරගත් රාග, ද්වේෂ, මෝහ මූලික කාම විතර්ක සිතුවිලිවලින් නිදහස්ව සිතට එවන් සිතුවිලි අරමුණු ගලා ඒම නවත්වා ගෙන භාවනා කිරීමට සුදුසු තත්ත්වයකට තම සිතම සුඤ්ඤාගාරයක තත්ත්වයට පත්කර ගැනීමයි. භාවනා කිරීමට ඉඳගත් මොහොතේ පටන්ම සිතෙහි මතුවන්නේ භෞතික, ලෞකික බලාපොරොත්තු නම් කාම විතර්ක නම් එතැන භාවනාවට සුදුසු සිතක් පවතින්නේ නැත. අතීතය අමතක කර ඉන්ද්‍රිය සංවරය තුළින් සිත තැන්පත් කර ගැනීම කර්මස්ථාන වැඩීමට සුදුසු පරිදි සිත සුඤ්ඤාගාරගත කර ගැනීම මෙහිදී බලාපොරොත්තු වන තත්ත්වයයි.

මේ පියවර තුනම නිවැරදිව තේරුම්ගත් කෙනෙකුට බුදුපියාණන් දේශණා කළ ආනාපානසති භාවනාවද නිවැරදිවම තේරුම්ගෙන භාවිතා කළහැකි වෙයි.

"නිසීදති පල්ලංකං ආභුජිත්වා" යනුවෙන් ප්‍රකාශ කළේ පළක් බැඳ පර්යංකයෙන් හිඳගැනීම ලෙස අද සම්මතයේ ලබාදෙන අර්ථ විග්‍රහයයි. නමුත් අරිය විනයේ ධර්ම අර්ථය

වන්නේ මහන්තත්තකමෙන් ඉවත්වී, උද්ධච්චකමෙන් ඉවත්වී, අභිමානයෙන්, මමත්ත්වයෙන් තොරව තම සිත පහළම අංකයට ගෙනවිත්, මානයෙන් තොරවී අවංකව, පිරිසිදුව භාවනාවට ගැළපෙන ලෙසින් සිත සකස්කර ගැනීමයි. උච්චාසයන, මහාසයන තත්ත්වයෙන් සිත, කය නිදහස් කරගෙන බිමට බැස භාවනාවට ගැළපෙන සේ සිත ගත සකස්කර ගැනීමයි.

"උජුංකායං පණිදාය පරිමුඛං සතිං උපට්ඨපෙත්වා" යන පදයේ සම්මත තේරුම කය සෘජුව තබාගෙන හොඳ සිහියෙන් යුතුව ක්‍රියා කිරීම යන්නයි. මෙහි ලෝකෝත්තර ධර්ම අර්ථය හේතුඵල දහමට ගළපා බලා, සියලු වැරදි කාය කර්ම වලින් වැළකී යහපත් කාය කර්ම සිහිපත් කිරීමයි. සතියෙහි පිහිටා උට්ඨාන වීර්යයෙන් ක්‍රියා කිරීමයි.

"සෝ සතෝව අස්සසති සතෝව පස්සසති"

"සෝ" යනු හෙතෙම, ඔහු යනුයි. මෙහි කලින් සඳහන් කළ පූර්ව කොන්දේසි සම්පූර්ණ කරගත් ඔහු සත්‍යාවබෝධයෙන්ම ලැබූ සත්‍ය ධර්මාවබෝධය නිසාම කුසල ධර්ම ආශ්‍රය කරයි. අකුසල ධර්ම ප්‍රහාණය කරයි. එසේත් නැතිනම් ආශ්‍රය කළයුතු දහමත් දනී. ප්‍රහාණය කළයුතු අධර්මයත් දනී. කුසලය ආශ්‍රය කළයුතු බවත් දනී. අකුසලය ප්‍රහාණය කළ යුතු බවත් දනී. "ආනාපාන සති" යනු  වචන තුනකි. ආන = අස්ස, පාන = පස්ස. "අස්පස් කරනවා" යනුවෙන් අපේ පැරන්නන් අතර ගැමි වහරේ එන ව්‍යවහාර වචනයක් ඇත. "ගෙයක් අස්පස් කරනවා, කාමරයක් අස්පස් කරනවා" යනු ඒ කාමරයේ ඇති ප්‍රයෝජනයට ගතහැකි වටිනා දේ පිසදමා ශුද්ධ කර භාවිතයට ගතහැකි පරිදි අස් කිරීමත්, ප්‍රයෝජනයට ගත නොහැකි නොවටිනා කුණු කන්දල් පස් කිරීමත් ප්‍රහාණය කර ඉවත් කිරීමත්ය. මේ ආකාරයෙන්ම හැම පෘථග්ජන මිනිසෙකුගේම චිත්තසංථානයද අස්පස් කරගත යුතු තත්ත්වයෙන්ම පවතී. ආනාපානසති සූත්‍ර දේශණාවෙහි පෙන්වාදුන් අස්ස හා පස්ස යන වචන දෙකෙහි ධර්ම අර්ථය කුසලය ආශ්‍රය කිරීමත් අකුසලය ප්‍රහාණය කිරීමත්ය.

ත්‍රිපිටකයේ මජ්ඣිම නිකායේ අනුපද වග්ගයේම ආනාපානසති සූත්‍ර දේශණාවට පෙර ඒ අසලින්ම සඳහන් "සේවිතබ්බා අසේවිතබ්බා" නමැති සූත්‍ර දේශණාවක් ද ඇත. මෙම "සේවිතබ්බා අසේවිතබ්බා" සූත්‍රයෙන් විස්තර සහිතව පියවරෙන් පියවර විග්‍රහකර දේශණා කර පෙන්වා වදාළ සේවනය කළයුතු = අස්ස හා සේවනය නොකළ යුතු = පස්ස යන සියලු කුසල් හා අකුසල් දෙකොටසකට බෙදා ඉතාමත් පිරිසිදු ලෙස පෙන්වාදී ඇත. මෙම සේවිතබ්බා අසේවිතබ්බා සූත්‍රයේ ගෙනහැර දැක්වූ කරුණු යම් තරමකට හෝ තේරුම්ගත් කෙනෙකුට ආනාපානසති සූත්‍ර දේශණාවේ දේශණාකර වදාළ "සතෝව අස්සසති සතෝව පස්සසති" යන්නෙන් අදහස් කළ කරුණු දෙවර්ගයම ඉතාම පැහැදිළිව තේරුම් ගත හැකි වනු ඇත. මේ උතුම් අදහස ඇතිවම ත්‍රිපිටකයේ ආනාපානසති සූත්‍ර දේශණාවට කලින් ඒ අසලින්ම මෙම "සේවිතබ්බා අසේවිතබ්බා" සූත්‍රයද ලියාතැබූ බව ඉතාම හොඳින් තේරුම්ගත හැකිවෙයි. මේ සූත්‍ර ධර්ම දෙකම කියවා ඒවායේ එන ධර්ම අර්ථයන් තේරුම් ගත් කෙනෙකුට පමණක් නිවන් අවබෝධ කරගන්නට උපකාර වන ආනාපානසති භාවනාවද නොවැරදීම භාවිතා කරන්නට මනස යොමුවනවා ඇත. මේ කරුණු තේරුම් ගන්නට තරම් හැකියාවක් නොමැතිව කවුරු හෝ කවදා හෝ ත්‍රිපිටකයේ

එන උතුම් ආනාපානසති දේශණාව සිංහලයට පරිවර්තනය කිරීමේදී "ප්‍රාණයාම" නමැති වේද භාවනාවේ ඇතුළත් අදහසට ගැළපෙන පරිදි "ආශ්වාස ප්‍රශ්වාස" යන හුස්ම ඉහළ පහළ දැමීම අරමුණු කරගත් වචන අස්ස - පස්ස වෙනුවට ලියා තැබූහ. මේ අස්ස යන පදය "අස්සාස" යන පදය ලෙසින් ගෙන එය ආශ්වාස කිරීම ලෙසත්, පස්ස යන පදය "පස්සාස" ලෙසින් ගෙන එය ප්‍රශ්වාස කිරීම ලෙසත් අර්ථ ගන්වා බුද්ධ දේශණාවේ එන උතුම් භාවනා ක්‍රමය ප්‍රාණයාම භාවනාවක් බවටම පරිවර්තනය කර ගත්හ. අද ලොවපුරා ලක්ෂ සංඛ්‍යාත බෞද්ධයා මෙම අරිය භාවනා ක්‍රමය ගැන කරුණු කාරණා තේරුම් ගන්නට නොහැකිව, අනරිය භාවනා ක්‍රමයක් භාවිතා කරමින් අතරමංවී ඇති බව තවදුරටත් මේ පොත කියවන කිහිප දෙනෙකුට හෝ තේරුම්ගත හැකිවෙනු ඇත.

## 1. ආනාපානසති සූත්‍රයේ සඳහන් කායානුපස්සනාව

"කථං භාවිතාව භික්ඛවේ, ආනාපානසති, කථං බහුලීකතා චත්තාරෝ සතිපට්ඨානේ පරිපූරෙති. යස්මිං සමයේ භික්ඛවේ,

i. භික්ඛු දීඝං වා අස්සසන්තෝ දීඝං අස්සසාමීති පජානාති
දීඝංවා පස්සසන්තෝ දීඝං පස්සසාමීති පජානාති

ii. රස්සංවා අස්සසන්තෝ රස්සං අස්සසාමීති පජානාති
රස්සංවා පස්සසන්තෝ රස්සං පස්සසාමීති පජානාති

iii. සබ්බකාය පටිසංවේදී අස්සසිස්සාමීති සික්ඛති
සබ්බකාය පටිසංවේදී පස්සසිස්සාමීති සික්ඛති

iv. පස්සම්භයං කායසංඛාරං අස්සසිස්සාමීති සික්ඛති
පස්සම්භයං කායසංඛාරං පස්සසිස්සාමීති සික්ඛති
කායේකායානුපස්සී භික්ඛවේ, තස්මිං සමයේ භික්ඛු විහරති
ආතාපී සම්පජානෝ සතිමා විනෙය්‍ය ලෝකේ
අභිජ්ඣාදෝමනස්සං. කායේසු කායඤ්ඤතරාහං
භික්ඛවේ, ඒවං වදාමි යදිදං අස්සාසපස්සාසා
තස්මාතිහ භික්ඛවේ, කායේ කායානුපස්සී තස්මිං
සමයේ භික්ඛු විහරති"

ආනාපානසති සූත්‍ර දේශණාවේ පිළිවෙලින් පියවර දාසයක්ම විග්‍රහ කර ඇති අතර මෙම පියවර දාසයම ගිරිමානන්ද සූත්‍රයේද ආනාපානසතිය ලෙසින්ම ඉදිරිපත් කර ඇත. ආනාපානසති සූත්‍ර දේශණාවේ මෙම පියවර 16 කොටස් හතරකට බෙදා දක්වා ඇත. මුල් පියවර හතර කායානුපස්සනාව වැඩෙන ආනාපානසති භාවනාව ලෙසද දෙවන පියවර හතර වේදනානුපස්සනාව වැඩෙන ආනාපානසති භාවනාව ලෙසින්ද තුන්වන පියවර හතර චිත්තානුපස්සනාව වැඩෙන ආනාපානසති භාවනාව ලෙසින්ද හතරවන

අවසාන පියවර හතර ධම්මානුපස්සනාව වැඩෙන ආනාපානසති භාවනාව ලෙසද ඉතාමත් පිරිසිදු ලෙසින්ම විභජනය කර, විග්‍රහකර, විස්තර කරදී ඇත.

ඉහත සඳහන් කළ පාලි පාඨවලින් දැක්වෙන්නේ පළමුවන පියවර වූ කායානුපස්සනාව වැඩෙන ආනාපානසති භාවනාවේ එන පියවර හතරයි. එහිම එන කරුණු කිහිපයක් විස්තර වශයෙනුත් අර්ථ, ධර්ම, නිරුක්ති වශයෙනුත් පැහැදිළිකර ගැනීමෙන් ආනාපානසති භාවනා කිරීමෙන් කායේකායානුපස්සනාව වැඩෙන ආකාරය තේරුම් ගත හැකිය. "මහණෙනි, ආනාපානසති භාවනාව නිවැරදිව දැන තේරුම් ගෙන නිතර නිතර බහුල ලෙස භාවනා කිරීමෙන් සතර සතිපට්ඨානයම වැඩෙයි. සතර සති පට්ඨානය නිතර නිතර වැඩෙන විට සත්තබොජ්ජංග වැඩෙයි. සත්තබොජ්ජංග වැඩීමෙන් විද්‍යා විමුක්තිය පූර්ණ වෙයි. විද්‍යා විමුක්තිය යනු ප්‍රඥා විමුක්තියයි. නිවන් අවබෝධයයි".

කායානුපස්සනාව විග්‍රහකර දේශණාකළ පදවැල් වල ''පජානාති'' යන පදය මුල් පේළි හතරේම සඳහන් වේ. පජානාති යන පදය ආනාපානසති සූත්‍ර දේශණාවේ සඳහන් පද අතරින් ඉතාමත්ම වැදගත් පදයකි. මෙහි තේරුම නිවැරදිවත් පූර්ණ ලෙසත් මුළින්ම තේරුම්ගත යුතුමය.

"පජානාති" යන පදයෙහි ධර්ම අර්ථය පිරිසිඳ දැන ගැනීම යන්නයි. "පරිජානාති" "පරිජානං" යන පදවලින් ද බොහෝ තැන්වල සඳහන් මෙම පදයම "පරිඤ්ඤෙය්‍යයිය" යන පදයෙන්ද විග්‍රහකර ඇත. මෙසේ පිරිසිඳ දැනගත යුතු වන්නේ හේතුඵල ධර්මයට බහා ගළපා බලා ආශ්‍රය කළයුතු, සේවනය කළයුතු කුසල ධර්මයන් තෝරාබේරා ගෙන ආශ්‍රය කිරීමත් (අස්ස) හේතුඵල ධර්මයට බහා ගළපා බලා ආශ්‍රය නොකළ යුතු ප්‍රහාණය කළයුතු (පස්ස) අකුසල ධර්ම ප්‍රහාණය කිරීමත් යන දෙපැත්තයි. මේ තේරුම් නොගත් පිරිසිඳ දැන නොගත් කෙනෙකු "නප්පජානාති" යන පදයෙන්ද බුද්ධ භාෂිතයේදී හඳුන්වා දී ඇති බවත් තේරුම්ගත යුතුය.

අරිය මාර්ගය වැඩෙන අරිය මාර්ගයට උපකාරවන කුසල ධර්මයන් පිරිසිඳ දැන ආශ්‍රය කිරීමත් අරිය මාර්ගය වසා සිටින අරිය මාර්ගයට බාධක අකුසල ධර්මයන් පිරිසිඳ දැන ඒවා ප්‍රහාණය කර ඉන් ඉවත්වීමත් යන දෙකම ආනාපානසතිය නිවැරදිව වඩන කෙනෙකු අනිවාර්යයෙන්ම දැනගෙන භාවිතා කළයුතු දෙපැත්තයි. "අස්සසාමීති පජානාති, පස්සසාමීති පජානාති" යන මේ දෙපැත්ත පිරිසිඳ දැන ක්‍රියාකළ යුතු බවයි.

"සතෝව අස්සසති","සතෝව පස්සසති" එනම් සතියෙහි පිහිටා ඇතුළට ගෙන ආශ්‍රය කළ යුතු ධර්මයත්, ප්‍රහාණය කර බැහැර කළයුතු අධර්මයකුත් ලෙසින් දෙයාකාරයක්ම ඇති බව පිරිසිඳ දැන නොගත් කෙනෙකුට ආනාපානසති භාවනාවෙන් කායානුපස්සනාව එනම් කාය පස්සදිය, කය සංසිඳවීමක් කරගත නොහැකිය. මේ නිසා "පජානාති" යන වචනයෙන් හතර වරක්ම අවධාරණයෙන් පළමුකොටම ප්‍රකාශකර සිටියේ, ඉතාම වැදගත් දෙයකි. යෝනිසෝමනසිකාරයෙන් යුතුව දෙයාකාර වූ ක්‍රියාවන්ම තෝරා බේරාගෙන කටයුතු කළයුතු බව අවධාරණය කිරීමයි.

හුස්ම ඇතුළට ගැනීමත්, හුස්ම පිට කිරීමත් එක ආකාරයක අස්ස පස්ස කිරීමකි. මේ සඳහා "පජානාති" යන පදයෙන් අවධාරණය කර පෙන්වූ පිරිසිඳ දැන ගැනීමක් අවශ්‍ය නොවේ. හුස්ම ඇතුළට ගැනීම හා පිට කිරීම කල්පනාවක් ඇතත් නැතත් හොඳ සිහියක් ඇතත්, නැතත් මරණ මොහොත දක්වාම නිතැතින්ම සිදුවන දෙයකි. කොතරම් හොඳින් හුස්ම ගත්තත් දිග, කෙටි වශයෙන් හුස්ම ගත්තත් අනිත් ඉන්ද්‍රියයන් පහකින් කරන ක්‍රියා යහපත් නොවේ නම් ඒ අනෙක් ක්‍රියා නිසා ඇතුළට ගන්නා දේ කෙළෙස් නම් අයහපත් නම් අයහපත් දේ බැහැර කරනු වෙනුවට යහපත් අයහපත්, කුසල් අකුසල් සියල්ලම බැහැර කරයි නම් එවිටද ඇතුලාන්තය, අභ්‍යන්තරය පිරිසිදු විය නොහැකිය. ඒ නිසා තේරුම් ගතයුතු වන්නේ ආශ්වාස ප්‍රශ්වාස කිරීම ආශ්‍රය කොටගත් භාවනා ක්‍රමයක් ද ඇති බවත් එය අරිය භාවනා ක්‍රමය නොවන බවත්ය.

සේවිතබ්බා අසේවිතබ්බා සූත්‍රය කියවා සේවනය කළයුතු කුසලය හා අසේවනය කළයුතු සේවනයෙන් බැහැර කර ඉවත් කළයුතු අකුසලය, කෙළෙස් තේරුම්ගත් කෙනෙකුට ඉතාම පහසුවෙන් ආනාපානසති සූත්‍ර දේශණාවේ සඳහන් කළ,

"සබ්බකාය පටිසංවේදී අස්සසිස්සාමීති සික්ඛති"
සබ්බකාය පටිසංවේදී පස්සසිස්සාමීති සික්ඛති"

යනුවෙන් දේශණා කළ "සබ්බකාය" හා "පටිසංවේදී" යන පද දෙකේ තේරුමද අරිය විනයෙහි එන ධර්ම අර්ථයෙන්ම තේරුම් ගත හැකිවෙයි. කායානුපස්සනාව - කාය පස්සදිය - කය සංසිඳවීම සිදුකර ගැනීමට නම් මේ කය යනු කුමක්දැයි මුළින්ම තේරුම් ගත යුතුය. කාය යනු ක්‍රියා හයක එකතු වීමකි. මේ ක්‍රියා හය නිසාම මෙය කයක් වූවා මිස ක්‍රියා හය නැති කලක මෙය කඳක් මිස කයක් වන්නේද නැත. "සබ්බ කාය" ලෙසින් පෙළ දහමේ විග්‍රහ කළේ ඇසින් කරන ක්‍රියාවන්, කනෙන් කරන ක්‍රියාවන්, නාසයෙන් කරන ක්‍රියාවන්, කටින් කරන ක්‍රියාවන්, කයෙන් කරන ක්‍රියාවන් හා මනසින් කරන ක්‍රියාවන්ය. මේ ක්‍රියා හය නිසාම චක්ඛුකාය - රූපකාය, සෝතකාය - ශබ්දකාය, ඝාණකාය- ගන්ධකාය, ජිව්හාකාය - රසකාය, ස්පර්ශකාය - කායකාය, මනෝකාය - ධම්මකාය ලෙසින්ද මේ ක්‍රියා හඳුන්වන බව ඉතාම පැහැදිළිය.

මේ ක්‍රියා හයම කරන්නට දොරවල් හයක්ම ඇත. මේ දොරවල් හයෙන්ම යමක් ඇතුළට ගතහැකි නිසා මේ කයට අපි "ගත" යන පදයද භාවිතා කරමු. හොඳ - නරක, යහපත් - අයහපත්, කුසල් - අකුසල් යන දෙයාකාරයෙන්ම යුතුවූ සියලුම දේ ඇතුළට ගත හැකිවන්නේ මේ දොරවල් හයෙන්මය. ඇතුලාන්තය ශුද්ධ පවිත්‍ර කරගන්නට නම් ඇතුළට ගත් නරක දේ පිට කළ යුතු වන්නේද මේ දොරවල් හයෙන්මය. ඒනිසා "සබ්බකාය" ලෙස අදහස් කරන විට හැම කෙනෙකුම තමාගේම ඉන්ද්‍රියයන් හය හා ඒ ඉන්ද්‍රියයන් හයෙන්ම කරන ක්‍රියාවන් හයද නිවැරදිව තේරුම් ගත යුතුය.

"පටිසංවේදී" යන පදයේද ධර්ම අර්ථයම තේරුම් ගත යුතුය. "සංවේදීතාවය" යන පදය ඔබ අසා ඇති නිසා දැනටමත් දන්නා දෙයකි. "සං" යනු යමක් එකතුකරගත්, රැස්කරගත්, උපාදානය කරගත් ගති ලක්ෂණ යන තේරුමයි. එසේ එකතු කරගත් දේ නිසා

විඳින වින්දනය, ලබන වේදනාව "පටිසංවේදී" යන්නයි. පටි යනු බැඳීමයි. යම් කෙනෙකු කරන, කියන, හිතන සියලුම ක්‍රියා නිසා යමකට, යමෙකුට සිතින් බැඳෙයි. එසේ සිතෙන් බැඳෙන්නේ යම් වින්දනයක්, වේදනාවක් විඳීමට තමා කැමති වූ නිසාය. ඉන්ද්‍රියයන් පිනවීම ලෙසින් සාමාන්‍ය ව්‍යවහාරයේ භාවිතා කරන පදය මේ සංවේදීතාවයයි.

1. ඇසින් බලා රූපයක් දැක, චක්ඛු විඤ්ඤාණයක් බිහිවෙයි. ඇස පිනවීම යනු මෙයයි. ඇසින් විඤ්ඤාණ ආහාර ගැනීම යනු මෙයයි.
2. කනෙන් යම් ශබ්දයක් අසා සෝත විඤ්ඤාණයක් බිහිවෙයි. කන පිනවීම යනු මෙයයි. සෝත විඤ්ඤාණ ආහාර බිහිවෙයි.
3. නාසයෙන් යමක ගඳ සුවඳ ගෙන ඝාණ විඤ්ඤාණයක් බිහිවෙයි. නාසය පිනවීම යනු මෙයයි. ඝාණ විඤ්ඤාණ ආහාර ගැනීම යනු මෙයයි.
4. දිවෙන් ආහාරයක රස විඳීමෙන් ජිව්හා විඤ්ඤාණය බිහිවෙයි. දිව පිනවීම යනු මෙයයි. ජිව්හා විඤ්ඤාණ  ආහාර ගැනීම යනු මෙයයි.
5. කයට යම් ස්පර්ශයක් ලැබීම නිසා පොට්ඨබ්බ විඤ්ඤාණය බිහිවෙයි. කය පිනවීම යනු මෙයයි. කාය විඤ්ඤාණ ආහාර ගැනීම යනු මෙයයි.
6. මනසට යම් මතක සටහනක් ගෙන මනෝ විඤ්ඤාණය බිහිවෙයි මන පිනවීම යනු මෙයයි. මනෝ විඤ්ඤාණ ආහාර උපදින්නේ මෙසේයි.

"සබ්බ කාය" යනුවෙන් සඳහන් කළේ මෙම ක්‍රියාවන් හයම නිසාම උපදින විඤ්ඤාණ ශක්තියටයි. මේ ක්‍රියා හය නිසාම කාය පටිසංවේදී බවද ඇතිවෙයි. චිත්ත පටිසංවේදී බවද ඇතිවෙයි. වෙන කිසිම ආකාරයකින් කාය පටිසංවේදී බව හෝ චිත්ත පටිසංවේදී බවක් කිසි කෙනෙකුට ඇතිවිය නොහැකිය. පටිසංවේදී බව යනු විඤ්ඤාණ ශක්තිය ඉපදවීමයි.

කය සංසිඳවීමට නම් මේ ක්‍රියා හයෙන්ම (එකතු කරන) ආශ්‍රය කරන හොඳ දේ ආශ්‍රය කිරීමත්, ආශ්‍රය නොකළ යුතු අයහපත් දේ බැහැර කිරීමත් යන ක්‍රියා දෙකම කළ යුතුය. හොඳ නරක සියල්ලම ආශ්‍රය නොකිරීම හෝ සියල්ලම ආශ්‍රය කිරීම හෝ යන දෙකම අන්ත දෙකකි. සියල්ලම ආශ්‍රය නොකිරීම නිසා සිත අසංඥ තත්ත්වයකට පැමිණීමත් සියල්ලම ආශ්‍රය කිරීම නිසා දාහය, ගින්න - අභිජ්ඣා දෝමනස්ස බිහිවීමත් සිදුවෙයි. අභිජ්ඣා යනු දැඩි ලෝභයයි. දැඩි ආශාවයි. එය දුකට, දොම්නසට මුල්වන හේතුවයි. කාය පස්සදිය නැතිවන්නේ ක්‍රියාව අසංවර වන්නේ "දාහය" "ගින්න" අභිජ්ඣා ගති ලක්ෂණයන් සිතේ උපදින නිසාමය.

"සබ්බකාය පටිසංවේදීතාවය" පිළිබඳව මෙතරම් දීර්ඝ විස්තරයක් කළේ මුළු ආනාපානසති භාවනා ක්‍රමයම රැඳී පවතින්නේ මේ "සබ්බකාය පටිසංවේදී" බව යන්නෙහි දෙපැත්තම නිවැරදිව තේරුම් ගැනීම මත නිසාමය. කය ගිනිගන්නා, කය දාහයට පත්වන අභිජ්ඣා ගති ලක්ෂණයන් සේවනය කිරීමෙන් බැහැරවිය යුතු බවත් කයෙහි ගින්න නිවන, කය සංසිඳවන, කය නිවන ක්‍රියාවන්හි යෙදීම කළ යුතු බවත් අවධාරණය කිරීම සඳහාය. "කාය" යනු ක්‍රියාව යන තේරුම මිස ශරීරය නොවේ.

"පස්සම්භයං කායසංඛාරං" යනුවෙන් අදහස් කළේ කෙනෙකු තුළ සියලු භය ඇතිවන්නේ කාය සංඛාර නිසා බව පෙන්වා දී කාය සංඛාර නිසා උපදින අයහපත් අකුසල් දේ බැහැර කර නිදහස් විය යුතු බවත් පෙන්වා දී ඒ සමඟම යහපත් කුසල් ආශ්‍රය කිරීමෙන් සියලු භය සංසිඳෙන බවත් භය සංසිඳීමත් සමඟම කය සංසිඳෙන බවත් පෙන්වා දීමටයි. ක්‍රියාවන් යහපත් වීමත් සමඟම අයහපත් ක්‍රියාවන් බැහැර කිරීමත් සමඟම කය සංසිඳී - කායානුපස්සනාව වැඩී - ගින්න සංසිඳී - දාහය නැතිවී - භය සංසිඳී නිවුණු කයක ස්වභාවයට පත්වෙයි.

ඉන්ද්‍රියයන් හයම දොරවල් හයක් ඇර තැබුවා සේ විවෘත කර තැබීමෙන් හොඳ නරක සියලුම කුණු එකතු වෙයි. කුණු එකතු කිරීම නැවැත්වීමට නම් තමාගේම ඉන්ද්‍රියන් හයම සංවර කරගත යුතුය. ඒ ආකාරයෙන්ම කුණු සළාහැර පිරිසිදු වීම කරගත හැකිවන්නේද ඒ ඉන්ද්‍රියයන් හයෙන්ම කවදා හෝ අතීතයේ එකතු කර චිත්තසංථානයේ තැන්පත් කර ගබඩාවී පවතින කුණු ගති ගුණ ඒ ඉන්ද්‍රියයන් හයම ආශ්‍රයෙන් බැහැර කිරීමෙනි. කුණු ඇතුළට ගත් (ඉන්ද්‍රියයන්) දොරවල් හයෙන්ම කුණු බැහැර කිරීමද කළ යුතුය. මෙය ඉන්ද්‍රිය භාවනාවයි. ඉන්ද්‍රියයන් සංවර කර ගැනීමයි. සංවර සීලයයි. මේ අනුව ආනාපානසති භාවනාව යථාපරිදි අවබෝධ කරගෙන සතියෙන් යුතුව භාවනා කිරීමෙන් සීල, සමාධි, පඤ්ඤා යන තුන් ආකාරයේම ක්‍රියාකාරීත්වය පූර්ණ වෙයි.

කායානුපස්සනාව යථාපරිදි සිදුනොවී නම් කය සංසිඳීම සිදුවූයේ නැත්නම් වේදනාව සංසිඳීමක් වේදනානුපස්සනාවේ පිහිටීමක් හෝ සිත සංසිඳීමක් චිත්තානුපස්සනාවේ පිහිටීමක් හෝ ධම්මානුධම්ම ප්‍රතිපදාව පුරාගෙන ධම්මානුපස්සනාව පුරා ගැනීමක් හෝ කිසිසේත්ම සිදු නොවේ.

හුස්ම ගැනීම - ආශ්වාසය, හුස්ම පිට කිරීම - ප්‍රශ්වාසය ලෙසින් අස්ස, පස්ස යන පද අර්ථ ගන්වා එක ක්‍රියාවක් දෙස පමණක්ම බලා කය සංසිඳවා ගත නොහැකිය. ක්‍රියාවන් හයම දෙස බලා ක්‍රියාවන් හයෙන්ම යහපත් කුසල් ආශ්‍රය කිරීමත්, අයහපත් අකුසල් බැහැර කිරීමත් කළ යුතුය. මේ අනුව තම තමන්ම තමාගේම ඉන්ද්‍රියයන් හයෙන්ම වටිනා, හරවත්, ප්‍රිය මධුර යැයි සිතා එකතු කරගන්නා දේ පිළිබඳව දෙවරක් නොව කිහිපවරක්ම ඉවසා, සිතා බලා එවැනි ප්‍රිය මනාප දේ ගින්න, දාහය, අභිජ්ජා, ශෝකය, භය ඇති කරවන දේ නම් ඒවා ඇතුළට නොගත යුතුය. සිත කය නිවන භය ඇති නොවන කය සංසිඳෙන දේ නම් ඒවා පමණක් ඇතුළට ගත යුතුය.

## 2. වේදනානුපස්සනාව ආනාපානසති භාවනාව ඇසුරෙන්

යස්මිං සමයේ භික්ඛවේ, භික්ඛු

v. පීතිපටිසංවේදී අස්සසිස්සාමීති සික්ඛති
පීතිපටිසංවේදී පස්සසිස්සාමීති සික්ඛති

vi. සුඛ පටිසංවේදී අස්සසිස්සාමීති සික්ඛති
සුඛ පටිසංවේදී පස්සසිස්සාමීති සික්ඛති

vii. චිත්තසංඛාර පටිසංවේදී අස්සසිස්සාමීති සික්ඛති
චිත්තසංඛාර පටිසංවේදී පස්සසිස්සාමීති සික්ඛති

viii. පස්සම්භයං චිත්ත සංඛාරං අස්සසිස්සාමීති සික්ඛති
පස්සම්භයං චිත්තසංඛාරං පස්සසිස්සාමීති සික්ඛති

"වේදනාසු වේදනානුපස්සී භික්ඛවේ, තස්මිං සමයේ භික්ඛු විහරති ආතාපි සංපජානෝ සතිමා විනෙය්‍ය ලෝකේ අභිජ්ඣාදෝමනස්සං"

කායානුපස්සනාව වැඩූ කෙනෙකු තම ක්‍රියාවන්ගේ වේගය සංසිඳවා ගැනීමත් සමඟම වේදනාව ගැනද යම් තරමක හැඟීමක් ඇතිවෙයි. ඉන්ද්‍රියයන් පිනවීමෙන් ලබන ප්‍රීතිය, සුඛය හා චිත්ත පටිසංවේදී බව හා එවන් ඉන්ද්‍රියයන් පිනවීම අත්හැරීමෙන් ලබන නිරාමිස ප්‍රීතිය, නිරාමිස සුවය හා සිත නිවීමද යම් තරමකට හෝ තේරුම් ගත හැකි වෙයි. කය රමණය කරන ක්‍රියාවන් නිසා කාම ප්‍රීතියත්, කාම සුඛයත් ඇතිවේ. කාමයෙන් වෙන්වීම නිසා නෙක්ඛම්ම ප්‍රීතියත්, නෙක්ඛම්ම සුවයත් ඇතිවෙයි. කාම ප්‍රීතිය හා කාම සුඛය යන දෙකම වේදනාවෙන් විඳීමත් ප්‍රීතියක් හා සුවයකි. ඒ දෙකම සුළු මොහොතකින් වෙනස් වී දුකට පත් කරවන දුකම උරුම කරදෙන එක දිගටම පැවැත්විය නොහැකි ප්‍රීතියක් හා සුවයකි. නෙක්ඛම්ම ප්‍රීතිය ඊට හාත්පසින්ම වෙනස් නිරාමිස ප්‍රීතියකි. නිරාමිස සුවයකි. මේ ආකාරයෙන්ම කායික ප්‍රීතිය, උපධි ප්‍රීතියකි. උපධි සුඛයකි. නිරුපදි ප්‍රීතිය හා නිරුපදි සුඛය යහපත් එකකි. සාසව ප්‍රීතිය හා සාසව සුඛය බැඳීමක්, බරක්, බයක් උපදවයි. අනාසව සුඛය සම්මා සුවයයි. අනරිය ප්‍රීතිය අනරිය සුවය සසර ගමන දික් කරන්නකි. අරිය ප්‍රීතිය, අරිය සුවය නිර්වේදයිත සුඛයකි. නිදහස්වීමේ සුවයකි. ඒ ආකාරයෙන්ම සමාධි සුවය, උපේක්ඛා සුවයද නිවන් සුවයට මංපෙත් හෙළිකරයි.

මෙහි කළින් දැක්වූ පරිදි සෑම සංඛාර කිරීමක් නිසාම කෙනෙක් යම් විඳීමක් වින්දනයක්, වේදනාවක් ලබයි. මෙය ප්‍රිය වේදනාවක් හෝ අප්‍රිය වේදනාවක් හෝ මැදිහත් වේදනාවක් හෝ විය හැකිය. අකුසල් කර්මයක් කිරීමෙන් ලබන ප්‍රිය වේදනාව හා ප්‍රිය සුවය මොහොතකින් දුක්, අප්‍රිය වේදනාවක් බවටද පත්වෙයි. ඒ අනුවම කුසල කර්මයක් කිරීමෙන් ලබන ප්‍රීතිය හා සුවය නිරාමිස ප්‍රීතියක්ද වෙයි. අත්හැර නිදහස්වීමේ සුවයක් වෙයි.

මෙයින් පැහැදිළි කරන්නට උත්සාහ ගත්තේ ප්‍රීති, සුඛ, චිත්ත සංඛාර යන තුන් අවස්ථාවෙහිම අත්හැර නිදහස් විය යුතු ප්‍රීතියක්, සුවයක් හා චිත්ත සංඛාර පටිසංවේදී බවක් ඇත. "පස්ස සිස්සාමීති සික්ඛති" යනු ඒ අතහැර මිදී හික්මිය යුතු ප්‍රීතියයි. සුඛයයි. චිත්ත පටිසංවේදීතාවයයි. ඒවාගේම ආශ්‍රය කළයුතු කුසල මූල ප්‍රීතියක්, සුඛයක් හා චිත්ත පටිසංවේදී බවක්ද ඇත. "අස්ස සිස්සාමීති සික්ඛති" යනු මේ ආශ්‍රය කළයුතු ප්‍රීතිය, සුඛය හා චිත්ත පටිසංවේදී බවයි.

වේදනානුපස්සනාව සඳහා වේදනාව සංසිඳීම සඳහා මේ දෙයාකාර ක්‍රියාවන්ම කළ යුතුය. අත්හළ යුතු කාම ප්‍රීති, කාම සුඛ, කාම චිත්ත පටිසංවේදී බව ආදී කොට ඇති ඉන්ද්‍රියයන් පිනවීමේ ප්‍රීති, සුඛ අත්හැර, නිදහස් වී, ශික්ෂණය විය යුතුය. එවාගේම ආශ්‍රය කළ යුතු නෙක්ඛම්ම සුවය, අනාසව සුවය, නිරාමිස ප්‍රීතිය, සමාධි සුවය ආදී ප්‍රීති හා සුඛ අත්විඳ ගත යුතුය. එය අරිය සුවයයි. මේ අනුව වේදනානුපස්සනාව ලැබීමට නම් වේදනාව සංසිඳුවා ගැනීමට නම් මේ සඳහන් කළ දෙයාකාරයේම ආශ්‍රය කිරීම හා ආශ්‍රයෙන් බැහැර කිරීමද තෝරා බේරාගෙන කටයුතු කළ යුතුමය.

නිරාමිස සුවය හා ප්‍රීතියත් නෙක්ඛම්ම සුවය හා ප්‍රීතියත් නිරුපදි සුවය හා ප්‍රීතියත් සමාධි සුවය හා ප්‍රීතියත් යන සියල්ලමත් අත්හැර සිත අසංඥ තත්ත්වයට පත්කර ගත හොත් කිසි විටකත් ධම්මානුධම්ම ප්‍රතිපදාව සම්පූර්ණ කරගන්නට උපකාර වන ප්‍රසාදයට පත්වූ සිතකින් ධම්මානුපස්සනාවෙහි යෙදීමටද නොහැකි වෙනු ඇත. ඒ නිසා ආශ්‍රය කළ යුතු ප්‍රීතියක්, සුඛයක් හා චිත්ත පටිසංවේදීතාවයකුත් ඇති බව නිතරම කල්පනා කර කායානුපස්සනාව හා වේදනානුපස්සනාව වැඩිය යුතුය.

කාම ප්‍රීතිය, කාම සුවය, උපධි ප්‍රීතිය හා උපධි සුවය, සාසව ප්‍රීතිය හා සාසව සුවය ආමිස සුවය හා ආමිස ප්‍රීතිය හැම විටම අභිජ්ඣා දෝමනස්සයට මුල්වන බව දැන එය ප්‍රහාණය කර දමා ඉන් ලබන වේදනාව ප්‍රිය මධුර වුවත් එහි අනිච්ච බව පසක් කොට දැන ඉන් මිදී නිදහස්විය යුතුය. එය වේදනානුපස්සනාව වැඩීමයි. වේදනාව සංසිඳීමයි. ඒ මිස කයෙහි ඇතිවන වේදනා බැලීම වේදනානුපස්සනාව නොවේ.

කාම සුවය කාම ප්‍රීතිය නිසා උපධි සුවය උපධි ප්‍රීතිය නිසා නිතරම සිතෙහි භයක්, බරක්, බැඳීමක් ඇතිවෙයි. එයට හේතුව කොයි මොහොතේ හෝ ප්‍රීතිය, සුවය නැති වී අවසන් වී යාදෝ යන භයයි. නමුත් නෙක්ඛම්ම ප්‍රීතියේ හා සුවයේ නිරුපධි ප්‍රීතියේ හා සුවයේ, සමාධි සුවයේ ප්‍රීතියේ එවැනි භයක්, තැති ගැන්මක් හිතකට ඇති වන්නේ නැත. එය අත්හැර මිදී නිදහස්වීමේ සුවයයි. ප්‍රීතියයි. ඒ නිසා "පස්සං භයං චිත්ත සංඛාරං" යන තත්ත්වය තේරුම් ගෙන වේදනාව සංසිඳවා ගත යුතුය.

අස්ස යන්න ආශ්වාස ලෙසත් පස්ස යන්න ප්‍රාශ්වාස ලෙසත් වැරදියට පරිවර්තනය කරගෙන හුස්ම ඉහළ පහළ දැමීම, පිම්බීම හැකිළීම කෙරෙහි අවධානය යොමු කර අරමුණු වන සියලුම ප්‍රීති හා සුඛ අත්හැර ලබන්නට හැකි වන්නේ අසඤ්ඤ තත්ත්වයකි. ධර්මය නොදැනීම නිසා ධර්මය වැරදියට පරිවර්තනය කිරීම නිසා සිදුවූයේ මෙවන් මහානර්ඝ වූ ආනාපානසති භාවනා ක්‍රමය භාවිතයෙන් අනේක වූ දුක්විඳි ලෝක සත්ත්වයාට ලබාගත හැකිව තිබූ වේදනා සංසිඳියාව ලබාගැනීමේ අරිය මාර්ගය වැසී යටපත් වී යාමයි. අද වේදනානුපස්සනාව කායික වේදනාවක් බැලීමකට පමණක් සීමාවී ඇත. මෙය ප්‍රාණයාම භාවනාවකි.

## 3. චිත්තානුපස්සනාව ආනාපානසති සූත්‍රය ඇසුරෙන්

"යස්මිං සමයේ භික්ඛවේ භික්ඛු

ix. චිත්තපටිසංවේදී අස්සසිස්සාමීති සික්ඛති
චිත්තපටිසංවේදී පස්සසිස්සාමීති සික්ඛති

x. අභිප්පමෝදයං චිත්තං අස්සස්සාමීති සික්ඛති
අභිප්පමෝදයං චිත්තං පස්සසිස්සාමීති සික්ඛති

xi. සමාදහං චිත්තං අස්සසිස්සාමීති සික්ඛති
සමාදහං චිත්තං පස්සසිස්සාමීති සික්ඛති

xii. විමෝචයං චිත්තං අස්සසිස්සාමීති සික්ඛති
විමෝචයං චිත්තං පස්සසිස්සාමීති සික්ඛති
චිත්තේ චිත්තානුපස්සී භික්ඛවේ, තස්මිං සමයේ භික්ඛු
විහරති අතාපි සම්පජානෝ සතිමා විනෙය්‍ය ලෝකේ
අභිජ්ඣාදොමනස්සං නාහං භික්ඛවේ මුට්ඨස්සතිස්ස
අසම්පජානස්ස ආනාපානසති භාවනං වදාමි
තස්මාතිහ භික්ඛවේ චිත්තේ චිත්තානුපස්සී තස්මිං
සමයේ භික්ඛු විහරති ආතාපි සම්පජානෝ සතිමා
විනෙය්‍ය ලෝකේ අභිජ්ඣා දොමනස්සං"

සියලු අකුසල් ක්‍රියාවන් බැහැර කර කුසල් ක්‍රියාවන් ආශ්‍රය කිරීම නිසා කයෙහි ඇතිවන දාහය, ගින්න සංසිඳවාගත්, ඒ අනුවම වේදනාවද සංසිඳුවාගත් ආනාපානසති භාවනානුයෝගියාට දැන් තම සිත සංසිඳුවා ගැනීම ඉතාමත් පහසු කාර්යයකි. ක්‍රියාවන් නිසා බිහිකරගත් වේගය සමඟ මෙතෙක් සිතින් බැඳී තිබූ චිත්ත පටිසංවේදීතාවය අත්හැරීමත් සමගම දැන් චේතෝ විමුක්තිය ලබාගැනීම අරමුණු කරගෙන සිත ප්‍රසාදයට පත්වෙයි. මෙය නිරාමිස ප්‍රීතියයි. නිරාමිස සුඛයයි. නිරාමිස ප්‍රීතියත්, නිරාමිස සුවයත් ක්‍රමයෙන් අත්හැර නිදහස් වීමෙන් සිත අධිමොක්ඛ තත්ත්වයට, අභිප්‍රමෝද තත්ත්වයටද පත්වෙයි. අභිප්‍රමෝදයට පත්වූ සිත සමාදහං තත්ත්වයටද පත්වෙයි. සමාදහං තත්ත්වයට පත්වීමේදී සිදුවන්නේ මෙතෙක් සිතෙහි රැඳී පැවති (සං) අභිජ්ඣා, දෝමනස්ස ගති සහමුළින් ඉවත් වී, "සම්මා" තත්ත්වයට සිත පත්වීමයි. නෙක්ඛම්ම, උපේක්ඛා තත්ත්වයට සිත පත්වීමයි.

පෘථග්ජන පුද්ගලයෙකු තුළ කායික දාහය, ගින්න, දුක ඇතිවන්නේත් මානසික දාහය, ගින්න, දුක ඇතිවන්නේත් පංචස්කන්ධය උපාදානය කරගන්නේත් අභිජ්ඣාව නිසාමය. අභිඉච්චා යනු දැඩි ලෝභයයි. දැඩි ආශාවයි. බලවත් කැමැත්තයි. දැඩි ලෝභය නිසා සිතෙහි ගින්නක් දාහයක් නිරන්තරවම උපදී. දැඩි ලෝභයෙන්, ආශාවෙන්, උපාදානය කරගත් දේ තමන්ට අහිමිවී යාමත් සමඟම දොම්නස් සිතක්ද, ද්වේෂයක්ද ඇතිවෙයි.

ආනාපානසති සූත්‍ර දේශණාවේ සඳහන් මුල් පියවර දොළහ තුළදීම අභිජ්ඣාව දෝමනස්ස යන කෙළෙස් ගති ලක්ෂණ කෙනෙකුගේ සිත තුළින් සහමුළින්ම ඉවත්කර,

සිත "සමාදහං චිත්තං" යන තත්ත්වයට පත්කර ගන්නට මඟ කියාදෙයි. මේ සඳහා සිතින් බැහැර කළ යුත්තේ අකුසල් සහගත ක්‍රියා, වදන් හා සිතුවිලිය. ඒ සමඟම ආශ්‍රය කළ යුත්තේ අභිජ්ඣාව දොම්නස සිතෙහි උපදින්නට මුල්වන සිතෙහි තැන්පත්ව පවතින කිළිටි කෙළෙස් ගති ලක්ෂණ සළාහැර පිරිසිදුවීමට උපකාරවන කුසල ක්‍රියාවන්ය. කුසලස්ස උපසම්පදා යන පදයෙන් විග්‍රහ කරදුන්නේ මෙම යථාර්ථයයි. මේ අනුව ආනාපානසති සූත්‍රයෙන්ද පෙන්වා දුන්නේ "සබ්බ පාපස්ස අකරණං - කුසලස්ස උපසම්පදා" යන ආශ්‍රය කළයුතු හා බැහැර කළ යුතු යන දෙපැත්තමයි. මෙතැනදී බුදුපියාණන්වහන්සේම විශේෂයෙන් සඳහන් කළ කරුණක් කෙරෙහිද අවධානය යොමු කළ යුතුය.

"නාහං භික්ඛවේ මුට්ඨස්සතිස්ස - අසම්පජානස්ස ආනාපානසති භාවනං වදාමි"

"මුට්ඨස්සතිස්ස" යනු ඇත්ත නැත්ත තේරුම් කරගන්නට නොහැකි හේතුඵල ධර්මය තේරුම්ගත නොහැකි මුට්ඨ, මෝහ, සතියෙහි පිහිටා කටයුතු නොකරන, සංපජානනය කළ නොහැකි, අසම්පජානස්ස පුද්ගලයාටයි. "මම ආනාපානසති භාවනා ක්‍රමය එවැන්නන්ට දේශණා නොකරමි, නිර්දේශ නොකරමි" සංපජානනය කළ නොහැකි පුද්ගලයාට සමාදහන් චිත්තං තත්ත්වයට පත්වීමට හැකියාවක් ද නැත. "සං" යනු රැස්කරගත් උපාදානය කරගත් රාග, ද්වේෂ, මෝහ මූලික ගති ගුණයෝයි. "සං" නිවැරදිවම තේරුම් ගෙන, පිරිසිඳ දැනගත නොහැකි පුද්ගලයාට "සං" වලින් මිදී සම්මා තත්ත්වයට පත් වීමද කරගත නොහැකිය. සම්මා දිට්ඨියට පත්වන්නට නොහැකිය. දස්සනේන සම්පන්නෝ යන තත්ත්වයට පත්විය නොහැකිය. අසම්පජානස්ස යනු එවන් ගති ලක්ෂණයන් ඇති පුද්ගලයාට භාවිතා කළ නමකි. එවන් පුද්ගලයෙකුට තමන් ආශ්‍රය කළයුතු කුසල ක්‍රියා හෝ බැහැර කළ යුතු අකුසල ක්‍රියා හෝ වෙන්කොට දැන හඳුනාගත නොහැකි නම් මෙවන් උතුම් ආනාපානසති භාවනාවකින් ලබාගත හැකි ඵලයක්ද නැත. මේ බුදුපියාණන්ම දේශණා කර පෙන්වූ ධර්මයයි.

හුස්ම ඇතුළට ගැනීම හා පිටකිරීම, ආශ්වාස ප්‍රශ්වාස කිරීම හෝ පිම්බීම හැකිළීම කෙරෙහි පමණක් සිත යොමුකරගෙන සිතට එන සියලුම අරමුණු, සිතුවිලි බැහැර කරන්නාද අසම්පජානස්ස පුද්ගලයෙකි. අසඤ්ඤ තලයකට පත්වීම ඔහු ලබන ඵල විපාකයයි.

අරිය විනයෙහි ලබන චේතෝ විමුක්තිය ලබන්නේද මෙම චිත්තානුපස්සනාවත් සමඟය. "විමෝචයං චිත්තං" යනුවෙන් සඳහන් කළේ චේතෝ විමුක්තියයි. "ප්‍රාණයාම" භාවනාව නම් අනරිය භාවනා ක්‍රමයෙන්ද චේතෝ විමුක්තියක් ලබාගත හැකිය. අනරිය අරූපී ධ්‍යානයකට පත්වීමෙන් ලබන එම චේතෝ විමුක්තියත් අරිය විනයේ එන අකුප්පා චේතෝ විමුක්තියත් දෙයාකාරය.

අරිය විනයේ එන චේතෝ විමුක්තිය ලැබූ පුද්ගලයාට ධම්මානුධම්ම පටිපදාව අනුගමනය කරන්නට සුදුසු චිත්ත ශක්තියක් සිතේ පිරිසිදු බවක් ධර්මතාවයෙන්ම ලැබෙන නිසා ධම්මානුපස්සනාව වඩා ප්‍රඥා විමුක්තියම පූර්ණකර ගැනීම කරගත හැකිය.

නමුත් අනරිය භාවනාවකින් ලබන චේතෝ විමුක්තියත් සමඟම ඒ අනරිය ධ්‍යානයන් නිසා ලබන ලෞකික සුවයෙන් මත් වී ඉන් ඔබ්බට යාමේ පිළිවෙතක් දැකගන්නට නොහැකිව ඒ ලෞකික සුවයෙහිම ඇළෙයි. එයම නිවන යැයි එයම විමුක්තිය යැයි තීරණය කර ඒ අරූපී ධ්‍යානයම සුවයක් සේ ගෙන වාසය කරයි. මේ නිසා සිදුවන්නේ එවන් අනරිය ධ්‍යානයන් ලැබූ පුද්ගලයින් අසඤ්ඤ තලයක් අල්ලාගෙන මරණ මොහොතින් පසුව එවැනි අසඤ්ඤ තලයකම උපත ලැබීමයි.

මේ නිසා නිවැරදි ආනාපානසති භාවනාව තේරුම්ගෙන නිවන් අවබෝධ කර ගැනීම හෝ වැරදි ආනාපානසති භාවනාව භාවිතා කර අසඤ්ඤ තලයක උපත ලබා සංසාරයේ අතරමං වීම හෝ යන දෙකෙන් එකක් තෝරා ගන්නට ඔබ දක්ෂ විය යුතුය.

## 4. ධම්මානුධම්මපස්සනාව වැඩීම

"යස්මිං සමයේ භික්ඛවේ, භික්ඛු,

xiii. අනිච්චානු පස්සී අස්සසිස්සාමීති සික්ඛති
අනිච්චානු පස්සී පස්සසිස්සාමීති සික්ඛති

ixv. විරාගානු පස්සී අස්සසිස්සාමීති සික්ඛති
විරාගානු පස්සී පස්සසිස්සාමීති සික්ඛති

xv. නිරෝධානු පස්සී අස්සසිස්සාමීති සික්ඛති
නිරෝධානු පස්සී පස්සසිස්සාමීති සික්ඛති

xvi. පටිනිස්සග්ගානු පස්සී අස්සසිස්සාමීති සික්ඛති
පටිනිස්සග්ගානු පස්සී පස්සසිස්සාමීති සික්ඛති
ධම්මේසු ධම්මානුපස්සී භික්ඛවේ තස්මිං සමයේ
භික්ඛු විහරති ආතාපි සම්පජානෝ සතිමා විනෙය්‍ය
ලෝකේ අභිජ්ඣා දෝමනස්සං සෝ යංතං
අභිජ්ඣා දෝමනස්සානං පහානං තං පඤ්ඤාය දිස්වා
සාධුකං අජ්ඣුපෙක්ඛිතා හොති.
තස්මාතිහ භික්ඛවේ ධම්මේසුධම්මානුපස්සී තස්මිං සමයේ
භික්ඛු විහරති ආතාපි සම්පජානෝ සතිමා විනෙය්‍ය
ලෝකේ අභිජ්ඣා දෝමනස්සං එවං භාවිතා බෝ
භික්ඛවේ ආනාපානසති එවං බහුලීකථා චත්තාරෝ
සතිපට්ඨානේ පරිපූරෙති"

"ධම්මානුධම්මපස්සනාව" යන්න අරිය විනයෙහි මිස වෙනත් කිසිම ආගමක, දර්ශනයක හෝ භාවනා ක්‍රමයක ඇතුළත් වන එකක් නොවේ. ධම්මානුපස්සනාව වැඩීමට නම් ත්‍රිලක්ඛණය නිවැරදිවත් යථාවබෝධයකින් යුතුවත් තේරුම්ගත යුතුමය. ත්‍රිලක්ඛණය නිවැරදි ලෙස අවබෝධ නොවූ කෙනෙකුට "අනිච්ච" යන පදයේ තේරුම පවා එහි ධර්ම අර්ථය පවා නොදැන ධර්මාවබෝධයක් ඇතිව ක්‍රියාකරතියි සිතිය නොහැකිය. මේ ආකාරයෙන්ම ධම්මානුපස්සනාව වැඩීමට නම් හේතුඵල දහම, පටිච්චසමුප්පාද ධර්මය පිළිබඳවද යම්කිසි අවබෝධයක් ලබා සිටිය යුතුමය. අවිද්‍යාමූල පටිච්ච සමුප්පාද ධර්මය තේරුම් ගෙන "භව" නිරෝධ කිරීමටත්, කුසලමූල පටිච්චසමුප්පාද ධර්මය තේරුම් ගෙන,

කුණු මුල් කපාහැර ප්‍රඥාව උපදවා පහදා ගැනීමටත් හැකියාව, ශක්තිය ලැබිය යුතුය.

ධම්මානුපස්සනාව වැඩීමෙන් සිදුවන්නේ ප්‍රඥා විමුක්තිය සම්පූර්ණ වීමයි. විද්‍යා විමුක්තියට පත්වීම යනුද ප්‍රඥා විමුක්තියට පත් වීමයි. සම්මා විමුක්තියට පත්වීම ලෙසින්ද මෙය බොහෝ තැන්වල සඳහන්ව ඇත. චේතෝ විමුක්තියට පත්වීමත් ප්‍රඥා විමුක්තියට පත්වීමත් යනු දෙයාකාරයක විමුක්තියට පත් වීමකි. අවිද්‍යාවෙන් දුරු වූ, මානයෙන් දුරු වූ, භව නිරෝධ කළ උත්තමයා ප්‍රඥා විමුක්තියට පත් වූ අරහත් බුද්ධ තත්ත්වයටම පත් වූ උත්තමයෙකි. ඔහුට තවදුරටත් කරගතයුතු දෙයක් ඉතිරිව නැත.

අනිච්ච, දුක්ඛ, අනත්ථ යන ත්‍රිලක්ඛණය නිවැරදිව තේරුම් ගත් චතු අරිය සත්‍යයන් යථාපරිදි අවබෝධ කරගත් අරිය පුද්ගලයෙකුට රාග - විරාග කිරීමටත්, රෝද - නිරෝධ කිරීමටත්, සංයෝජන - පටිනිස්සග්ග කිරීමටත් ධර්මතාවයෙන්ම ශක්තිය හා හැකියාවද ලැබෙයි. ඒ අනුව ආශ්‍රය කළ යුතු ධර්මතාවය - කුසල ධර්මයන් ආශ්‍රය කර, පහකර දැමිය යුතු අකුසල ධර්මයන් ප්‍රහාණය කර, සියලු සංයෝජනයන්ගෙන් මිදී මෙතෙක් සංසාර ගමන පවත්වාගෙන යාමට උපකාරවූ සියලු බැඳීම් - පටි නිස්සග්ග කර සියලු උපධීන්ගෙන් මිදී, නිදහස් වී අරහත් තත්ත්වයට පත්වීමට ක්‍රියාකරන උත්තමයෙකි.

චේතෝ විමුක්තිය පමණක් ලැබූ පුද්ගලයා යම් ආකාරයක අනරිය ධ්‍යානයක් ලබාගෙන චිත්ත විමුක්තියක් ලබා ගත්තද අරිය තත්ත්වයට පත්නොවූ අරිය ධර්මයෙහි යෙදීමට සමත් නොවන පෘථග්ජන පුද්ගලයෙකු නිසා යම් මොහොතක එම චේතෝ විමුක්තිය නැතිවී ධ්‍යානයන් නැති වී නැවත සාමාන්‍ය පුද්ගලයෙකු බවටත් පත්විය හැකිය. ඒවාගේම ඔහු සතර අපා දුකෙන් මිදුණු පුද්ගලයෙකු ද නොවේ.

චේතෝ විමුක්තිය ලබා ධ්‍යාන ලබාගෙන හෝ චේතෝ විමුක්තියෙන් තොර ධ්‍යානයන් නොලබාම හෝ ප්‍රඥා විමුක්තියට පත් අරිය උත්තමයාට ප්‍රඥා විමුක්තියට පත්වීමේ ප්‍රතිඵලයක් ලෙසින් අකුප්පා චේතෝ විමුක්තියද උරුමයෙන් ලැබෙයි. අකුප්පා චේතෝ විමුක්තිය යනු කම්පනය නොවන, නොසෙල්වෙන, වෙනස් නොවන චේතෝ විමුක්තියයි. යමෙකුට අකුප්පා චේතෝ විමුක්තිය ලබා ගත හැකි වන්නේද ප්‍රඥා විමුක්තියට පත්වීමේ ප්‍රතිඵලයක් ලෙසින්මය. මේ නිසා ප්‍රඥා විමුක්තිය හා චේතෝ විමුක්තිය යනු දෙයාකාර දෙවිධියක ශක්තීන් හා බලයන් බව නිවැරදිවම තේරුම් ගත යුතුය. චේතෝ විමුක්තිය පළමුව නොලබා ප්‍රඥා විමුක්තියෙන් අරහත් තත්ත්වයට පත් අයම බහුලය. බෞද්ධයෙකුගේ එකම බලාපොරොත්තුව නිවන් අවබෝධය ලබාගෙන සසර දුකින් සදහටම මිදී නිදහස් වීමයි. අනරිය භාවනා ක්‍රමයකින් ධ්‍යාන ලබාගැනීම හෝ ඍර්ධි ප්‍රාතිහාර්යයන් පෑමේ ශක්තිය ලබාගැනීම හෝ පංච අභිඥා ලබාගෙන තම ශක්තීන් විදහාපෑම හෝ බුදුපියාණන්වහන්සේ අනුදැන වදාළ දෙයක් නොවේ. ප්‍රතික්ෂේප කළ දෙයකි. මේ අනුවම එවකට ජන්බුද්වීපයේ පැවති අනරිය ආනාපානසති භාවනා ක්‍රමයද බැහැර කළ බුදුපියාණන්වහන්සේ අනිකුත් හැමතැනකදීම පෙන්වාදුන් පරිදි ආනාපාන සතිය වැඩීමේදීද අරිය මාර්ගයක් ඇති බව පෙන්වා දී ඒ සඳහා නව අර්ථ කථනයක් ලබාදී පහසුම හා කෙටිම නිවන් මඟ පූර්ණ කරගැනීමේ ඒකායන මාර්ගය නම් අරිය ආනාපානසති භාවනාව වැඩීම බව පැහැදිළිවම ආනාපානසති සූත්‍ර දේශණාවෙන් පැහැදිළි කර දුන්හ.

**සත්ත සම්බොජ්ජංග වැඩීමෙන් විද්‍යා විමුක්තිය පූරණය වීම**

විද්‍යා විමුක්තිය පරිපූරණය කරගෙන බුද්ධ බවට පත්වී නිවන් අවබෝධය පූර්ණ කරගැනීමට නම් අනිවාර්යයෙන්ම සම්බොජ්ජංග වැඩී සත්ත සම්බෝජ්ජංග පූර්ණ කරගත යුතුමය. නිවන් අවබෝධය පූර්ණකර ගැනීමේදී නියත වශයෙන්ම සම්පූර්ණ කරගත යුතු අංග හතක්ම සත්ත බොජ්ජංග ලෙසින් බුද්ධ භාෂිතයේ පෙන්වා වදාරා ඇත. බුද්ධත්වයට පත්වීම යනු ලොව්තුරා බුද්ධත්වයට පත්වීම, පච්චේක බුද්ධත්වයට පත්වීම හා අරහත් බුද්ධත්වයට පත්වීම යැයි තුන්තරා බෝධියක්ම බුද්ධ භාෂිතයේ සඳහන් වෙයි. මෙතැන බුද්ධ යනුවෙන් වදාළ පදයේ ධර්ම අර්ථය බු+උද්ධ යන්නයි. (භූ) බු යනු බිහි කිරීමයි. "භව" යන පදයෙන්ද පටිච්චසමුප්පාද ධර්මයේ විග්‍රහ කළේ (භූ) බු යන පදයයි. "භව" සහමුලින් උදුරා දැමීම බුද්ධ තත්ත්වයට පත්වීමයි. "භව" යනු කර්මබීජ උත්පත්ති බීජ යන්නයි. "උපාදාන පච්චයා භව, භව පච්චයා ජාති", ''උපාදාන නිරෝධා භව නිරෝධා'', ''භව නිරෝධා ජාති නිරෝධා'', යනුවෙන් පටිච්ච සමුප්පාද ධර්මයේ කරන ලද විග්‍රහයද ඉතාමත්ම පැහැදිළිය. කර්ම බීජ, උත්පත්ති බීජ සහමුළින්ම උදුරා දමා, නසා දමා අවසන් කිරීමෙන්ම පමණක් "භව" නිරෝධ කර ජාති නිරෝධ කරගත හැකිවෙයි. ජාති යනු උපතයි. ජාති යනු නිතරම එලයකි. ලබා ඇති උපත දැන් නැති කළ නොහැකිය. ජාති නැති කිරීමට නම් මතු ජාතියක උපත ලැබීමම නැති කරනු මිස දැන් ඊට වෙනත් ක්‍රමයක්ද නැත. මතු ජාතියක උපත නැති කිරීම සඳහා කළයුතු හා කළ හැකි එකම දේ කර්ම බීජ, උත්පත්ති බීජ, භව නිරෝධ කර, භව උදුරා ඉවත්කර දැමීමයි. භව නිරෝධ කරන්නට අභවර කරන්නට ප්‍රායෝගිකවම අනුගමනය කළ යුතු මඟ, පටිපදාව සත්ත සම්බොජ්ජංග සම්පූර්ණ කර ගැනීමයි. එසේ නම් සත්තබොජ්ජංග වැඩීම යනු භව අංග හතක්ම උදුරා දමා ඉවත් කිරීමයි. චිත්තසංථානයේ යළි යළිත් භව අංග බිහිවෙන තුරාවට කර්ම බීජද උපදී. "භව" නිරෝධ කර සියලු කර්ම බීජවලින් චිත්තසංථානය හිස්කර, මතු යළිත් කර්ම බීජ (භව) නැවත කවදාවත් නොඋපදවන තත්ත්වයටම පත්වීම සත්ත බොජ්ජංග පූර්ණ කර ගැනීමයි. මෙතනදී යළි කවදාවත් උත්පත්ති බීජ, කර්ම බීජ එකතු කර, රැස්කර නොගන්නා ආකාරයට චිත්තසංථානය පිරිසිදු කර ගැනීම සත්ත සම්බොජ්ජංග වැඩීම නමින් අදහස් කෙරේ. අතීතයේදී උපදවා චිත්තසංථානයේ රැස්කර ගබඩා කරගෙන තිබූ සියලු අතීත කර්ම බීජයන්ද විනාශ කර, භව උදුරා දමා, අලුතින් කිසිම කර්ම බීජයක් උපදවා ගබඩා කර ගැනීමද නවතා දමා පිරිසිදු තත්ත්වයටම චිත්තසංථානය පත්කර ගැනීම සත්ත සම්බොජ්ජංග පූර්ණකර ගැනීම ලෙසින් සරළ ලෙස පෙන්වා දිය හැකිය.

අවිද්‍යාව හා තණ්හාව නිසාම මෙතෙක් කළක් ඒවායෙහි ඇති යම් සාර බවක් දැක සංසාර දෘෂ්ඨියෙන්ම එසේ එකතුකර ගබඩා කරගත් සියලු කර්ම බීජයන් දැන් විද්‍යා විමුක්තියට පත්වීම නිසා නිස්සාර ලෙසින් දැක ඒවා එකතු කිරීමෙන්, ගබඩා කිරීමෙන් හා භාවිතා කිරීමෙන්ද වැළකී ඉවත්වීම බුද්ධ බවට පත්වීමයි. සත්ත සම්බොජ්ජංග වැඩීමෙන් නියත වශයෙන්ම අෂ්ටාංගික මාර්ගයද වැඩෙයි. ප්‍රඥා විමුක්තියද පූර්ණ වෙයි.

ආනාපානසති අරිය භාවනාව වැඩීමෙන්, නිතර නිතර බහුල ලෙස භාවිතා කිරීමෙන්, සතර සතිපට්ඨානයද වැඩෙයි. සතර සතිපට්ඨානය වැඩෙත්ම, බහුල ලෙස වැඩෙත්ම, සත්ත සම්බෝජ්ජංගද වැඩෙයි. සත්ත සම්බොජ්ජංගයන් වැඩී පූර්ණ වීමත්

සමඟම විද්‍යා විමුක්තිය පරිපූරණය වෙයි. ආනාපානසති සූත්‍රයෙන් පෙන්වා වදාළ මෙම අරිය මාර්ගය ඉතාම පහසුවෙන් ඉතාම කෙටි කලකින් විද්‍යා විමුක්තිය පරිපූරණය කරගැනීමේ කෙටිම මාර්ගය බවත් ඒකායන මාර්ගය බවත් බුද්ධ දේශණාවෙහිම පැහැදිළිව දක්වා ඇත.

පෘථග්ජන පුද්ගලයෙකු කරන, කියන, හිතන බොහෝමයක් ක්‍රියාවන් කරන්නේ අවිද්‍යාවෙන්, තණ්හාවෙන් පංචඋපාදානස්කන්ධයම අල්ලා, උපාදානය කර ගැනීමේ එකම චේතනාවෙනි. මේ ආකාරයට පංචස්කන්ධය උපාදානය කර ගැනීමත් සමඟම උපාදානය කරගත් දේ රැකගන්නට ක්‍රියා කරන නිසා පංචනීවරණ ධර්මයන්ටද යටත්වෙයි. මෙසේ යමක් උපාදානය කර ගැනීමත් සමඟම සිදුවන්නේ කර්ම බීජ උත්පත්තියක් සිදුවීමයි. බොහෝමයක් පෘථග්ජන මිනිස්සු පංච නීවරණ ධර්මයන් යනු මොනවාදැයි නොදනිති. පංචඋපාදානස්කන්ධය පිළිබඳව හා පංචස්කන්ධය පිළිබඳව වෙනස්කම් කිසිවක්ම නොදනිති. කර්ම බීජ තමන්ම තම කැමැත්තෙන්ම උපදවා ගෙන, තමාගේම චිත්තසංථානයේ ගබඩාකර, රැස්කර ගන්නා බවද නොදනිති. මෙවන් කරුණු පිළිබඳව ඇත්ත ඇති සැටියෙන් තේරුම්ගත් පුද්ගලයා පමණක් සති සංපජානකාරී පුද්ගලයෙකි. සම්මා දිට්ඨියට පත් පුද්ගලයෙකි. පංචඋපාදානස්කන්ධයම තම කැමැත්තෙන්ම අල්ලා උපාදානය කරගන්නේත්, පංච නීවරණ ධර්මයන්හිම ඡන්දරාගයෙන් ඇලෙන්නේත්, දෙවනුව ඒවා සමඟ ගැටෙන්නේත්, මුලා වූ ස්වභාවයෙන් අවිද්‍යාවෙන් හා තණ්හාවෙන් ක්‍රියා කරන්නේත් මේ කරුණු පිරිසිඳ නොදත් අසම්පජානස්ස පුද්ගලයායි. මොහු මොටවූ මුට්ඨස්ස පුද්ගලයෙකි. ඇත්ත දැක සතියෙහි පිහිටිය නොහැකි කෙනෙකි. ''ආනාපානසති අරිය භාවනාව එවන් අසම්පජානකාරී, මුට්ඨස්ස පුද්ගලයින් සඳහා නොව සම්පජානකාරී අසම්මුට්ඨස්ස පුද්ගලයින් සඳහාම පමණක් දේශණා කරමි'' යි බුදුපියාණන්වහන්සේම විශේෂයෙන් දේශණාකර පෙන්වා වදාළහ.

සත්ත සම්බෝජ්ජංග ධර්මයන් වැඩීමෙන් "භව" නිරෝධ වී ක්‍රමයෙන් කර්ම බීජ උත්පත්ති බීජ ඛය වී යයි. කර්ම බීජ ඛය වී, භව නිරෝධ වීම යනු රාගක්ඛය වීමයි. ද්වේෂක්ඛය වීමයි, මෝහක්ඛය වීමයි. ඒ අනුව සත්ත බොජ්ජංග වැඩීම යනු කුමක්දැයි තේරුම් ගෙන නිවැරදි ආකාරයෙන් ප්‍රතිපත්ති පිරීමෙන්ම, කර්ම බීජ ඛය වී ජාති නිරෝධ වීමද සිදුවෙයි. භව නිරෝධ කිරීම යනු සම්බොජ්ජංග වැඩීමයි. භව නිරෝධ වී ජාති නිරෝධ වී, මතු යළි උපතක් නොලබන තත්ත්වයයි. නිවන් අවබෝධය පූර්ණකර ගැනීම සඳහා සත්ත සම්බොජ්ජංග වඩා සම්පූර්ණ කර ගැනීම අනිවාර්යය අංගයක් බව බුද්ධ දේශණාවේ හැම තැනකම පැහැදිළිවම දක්වා ඇත. ඒ ඒ බොජ්ජංග ධර්මයන් වෙන්කොට, නම්කර, පොත පතෙහි වෙන් වශයෙන් සඳහන් කර තිබුණත් මේ කිසිවක් නම් වශයෙන්, පියවර වශයෙන් නොදැනම තමාගේම අධ්‍යාත්මය තුළින්ම සත්ත සම්බොජ්ජංග ධර්මයන් වැඩී පූර්ණ වී නිවන් අවබෝධ කරගත් බොහෝ අරහතුන්වහන්සේලා පිළිබඳව බුද්ධ සාහිත්‍යයේ සඳහන්ව ඇත.

ආනාපානසති භාවනාව නිවැරදිවත්, යථාපරිදිත් පිරිසිඳ දැනගත් කෙනෙකුට ආශ්‍රය කළයුතු කුසල ධර්මයන් හා ආශ්‍රයෙන් බැහැර කළයුතු අකුසල ධර්මයන් තෝරා බේරා ගන්නට තරම් දියුණු මනසක්ද ඇතිවන නිසා සතියෙහි පිහිටා කටයුතු කිරීමෙන්

සතර සතිපට්ඨානයම වැඩෙන්නට පටන් ගනී. පටිසංවේදී බව, සම්පජානකාරී බව, කාය සංඛාර, චිත්ත සංඛාර ආදී පදවල එන "සං" යන පදයේ තේරුමද යථාපරිදි වැටහෙනු ඇත. "සං" යන පදයෙන් විග්‍රහ කළේ එකතුවීම, රැස්කිරීම, බැඳීම, උපාදානය කර ගැනීම යන ධර්මතාවයයි. "භව" යනු මේ බැඳීම නිසා උපදින ගති ලක්ෂණයයි. ඒ ගති ලක්ෂණයම කර්ම බීජයකි. මතු එම ගති ලක්ෂණයටම අදාළ උපතක්ද ලබාදෙන්නට ඒ "භව" සමත් වන නිසා එය උත්පත්ති බීජයකි. කාය පටිසංවේදී, චිත්ත පටිසංවේදී, ප්‍රීති පටිසංවේදී, සුඛ පටිසංවේදී යන සියලු ගතිගුණයන් අපි සංතෝසය ලෙසින්ද සතුට ලෙසින්ද සාමාන්‍ය භාෂාවේදී හඳුන්වමු. නමුත් මෙහි එන පටිසංවේදී බව නිසා සංතෝසය පමණක්ම නොව සංවේගය, සංතාපය, සංවේදී බව හා සම්බන්ධයද පෘථග්ජන සිතකම ඇතිවෙයි. සං, නිවැරදිව තේරුම්ගත් කෙනෙකු හේතුඵල ධර්මය දැන ඒ තුළින්ම "සංදිට්ඨික" තත්ත්වයටද පත්වූ කෙනෙකි. සම්මා දිට්ඨියට පත්වීම යනුද එයයි. සං+මා යනු එකතු කරගත්, බැඳුනු, උපාදානය කරගත් දෙයින් (මා) මිදී නිදහස්විය යුතුයැයි දකින දැකීමයි. මෙයින් පැහැදිළි කරන්නට උත්සාහ ගත්තේ සම්මා අංග අටෙන් නිදහස් වීමත්, සත්ත බොජ්ජංග ධර්මයන් පූර්ණ කරගැනීමත් යනු එක ම ප්‍රතිපදාවක දෙපැත්තක් බව පහදා දීමටයි.

ආනාපානසති සූත්‍ර දේශණාවෙහි මෙන්ම සංයුක්ත නිකායේ බොජ්ජංග සංයුක්තයේත් ත්‍රිපිටකයේ තවත් බොහෝ තැන්වලත් පෙන්වා වදාළ සත්ත සම්බොජ්ජංග වඩා පූර්ණකර ගැනීම යනු කුමන ආකාරයක ප්‍රතිපත්ති පිරීමක්ද යන්න පිළිබඳව යම්කිසි දැනුමක් ලබා ගැනීම කාටත් ප්‍රයෝජනවත් වෙනු ඇත.

සත්ත සම්බොජ්ජංග යන පදයේම සඳහන් ආකාරයට අංග හතක්ම ඇත. මෙම අංග හත අතරින් සති සම්බොජ්ජංගය වැදගත්ම හා මූලිකම අංගයයි.

"ආතාපි සම්පජානෝ සතිමා විනෙය්‍ය ලෝකේ
අභිජ්ඣාදෝමනස්සං උපට්ඨිතස්ස තස්මිං සමයේ
සති හෝති අසම්මුට්ඨා, සතිසම්බොජ්ඣඞෙගා
තස්මිං සමයේ භික්ඛු භාවෙති."

මෙහි සඳහන් අර්ථය "අභිජ්ඣා දෝමනස්ස" යන ගති ලක්ෂණයන් කෙනෙකු තුළ පහළවීම නිසාම තමා තුළම ඇතිවන අනර්ථකර ඵලවිපාක යථාපරිදි දැක, තේරුම් ගෙන අභිජ්ඣා දෝමනස්ස ගති ලක්ෂණවලින් ඉවත්වී සිත සම්මා දිට්ඨියට පත්කර ගන්නට හැකි පළමු ලක්ෂණය සති සංපජානනයයි. අසම්පජානස්ස යනු එය දැක ගැනීමට සමත් නොවන යන අර්ථයයි. අසම්පජානකාරී පුද්ගලයාට හේතුඵල දහමට බහා ගළපා බලා තමා තුළම බිහිවන අභිජ්ඣා ගති ලක්ෂණ නිසා ඇතිවන දැඩි ලෝබකමද දැඩි ආශාවද හේතු කොට තමා තුළම බිහිවන අයහපත් ගති ලක්ෂණයන්, කර්මබීජ බිහිවීම තේරුම් ගත නොහැකිය. අභිජ්ඣාව නිසාම තමා තුළ මතුවන දොම්නස් ගතිය ගැනද තේරුම් ගත නොහැකිය. කෙනෙකු දුක් විඳින්නේ අභිජ්ඣාව නිසා ඇතිවන දෝමනස්ස ගතිය නිසාමය.

අභිජ්ඣා දෝමනස්ස යන ගති ලක්ෂණයන් අන්ත දෙකක ගති ලක්ෂණ බව දැක ඒ ගති ලක්ෂණවලින් තම සිත නිදහස් කරගත හැකි පුද්ගලයා අසම්මුට්ඨස්ස පුද්ගලයායි.

මුට්ඨස්ස පුද්ගලයා, මොට්ට පුද්ගලයා මෝහය නිසාම දැඩි ලෝකයෙන්, ආශාවෙන් හැකිතාක් අල්ලා ගන්නට, උපාදානය කරගන්නට දරණ උත්සාහය නිසාම එහි ඵලය ලෙසම දෝමනස්සයටද පත්වීම නියත වශයෙන්ම සිදුවන දෙයකි.

මේ නිසා සති සම්බොජ්ජංගයේ පිහිටි පුද්ගලයෙකු සතියෙහි පිහිටා හොඳ නරක, හේතුඵල, ආදීනව - ආනිසංස දැන, දැක, තේරුම් ගෙන ක්‍රියා කරන පුද්ගලයෙකුද වෙයි. ඔහු හිතට වහල් වී ක්‍රියාකරන පුද්ගලයෙකු නොවේ. ඇත්ත ඇති සැටියෙන් දැනගත් කෙනෙකි. සති සම්බොජ්ජංගයෙහි නිවැරදිව පිහිටා කටයුතු කරන පුද්ගලයෙකුට ඉතිරි සම්බොජ්ජංග හයමත් සම්පූර්ණ කරගෙන බොජ්ජංග ධර්ම පරිපූරණය කර ගැනීමේ හැකියාව හා ශක්තියද ලැබෙයි.

ප්‍රීති සම්බොජ්ජංගය, විරිය සම්බොජ්ජංගය හා ධම්මවිචය සම්බොජ්ජංගය යන බෝධි අංග තුනම එක පැත්තක පිහිටි ඒවාය. සිත තුළම ජනිත වන අභිජ්ඣා දෝමනස්ස ගති පහකර දැමීමෙන් ලබන ප්‍රීතිය, සුඛය හා විරිය වඩන පංචකාම නීවරණ ධර්මවලින් සිත නිදහස් කරන කුසල අකුසල ධර්ම තේරුම් ගැනීමටත්, සාවද්‍ය අනවද්‍ය ධර්මයන් තෝරා බේරා ගන්නටත්, හීන ප්‍රණීත ධර්මයන් තේරුම් ගන්නටත්, කටුක දේ බැහැර කර, සුවදේ තෝරා ගන්නටත් හැකි ශක්තිය හා හැකියාව කෙනෙකු තුළ ඇති කරවන අවස්ථාවයි.

පස්සදි සම්බොජ්ජංගය, සමාධි සම්බොජ්ජංගය හා උපේක්ඛා සම්බොජ්ජංගයන් අනික් පැත්තේ වැඩෙන දහම්ය. කාය පස්සදිය, කය සංසිඳීම ඇතිවීම හා චිත්ත පස්සදිය සිත සංසිඳීම ඇතිවීමත්, සමථ, විපස්සනා නිමිති පහළ වී සිත සමාධි ගතවීමටත් සිත නෙක්ඛම්ම උපේක්ඛා යන උතුම් තත්ත්වයට පත්වන්නටත් මේ බොජ්ජංග වැඩීම උපකාර වෙයි. මෙතනදී චේතෝ විමුක්තිය හා ප්‍රඥා විමුක්තිය යන දෙයාකාර උභතෝ විමුක්තියම පූර්ණ වන්නේ උපේක්ඛා සම්බොජ්ජංගය පූර්ණ වීමත් සමඟය.

"සෙය්‍යථාපි භික්ඛවේ අයං කායෝ ආහාරට්ඨිතිකෝ,
ආහාරං පටිච්ච තිට්ඨති, අනාහාරෝ නො තිට්ඨති
ඒව මේව ඛෝ භික්ඛවේ සත්ත බොජ්ඣංගා
ආහාරට්ඨිතිකා ආහාරං පටිච්චා තිටඨන්ති
අනාහාරා නො තිට්ඨන්ති කො ච භික්ඛවේ
ආහාරෝ අනුප්පන්නස්ස වා සත්ත බොජ්ජංගස්ස
උප්පාදාය උප්පන්නස්සවා සති සම්බොජ්ජංගස්ස
භාවනාය පරිපූරියෝ අත්ථි භික්ඛවේ
සතිසම්බොජ්ජංගංගට්ඨානියා
ධම්මා අයමාහාරෝ අනුප්පන්නස්ස වා
සතිසම්බොජ්ජංගස්ස උප්පාදාය උප්පන්නස්සවා
සතිසම්බොජ්ජංගස්ස භාවනා පරිපූරියා"

ආහාර හේතුකොට ගෙනම ආහාර ප්‍රත්‍ය කොට ගෙනම කය පවතින්නා සේම, පංචකාම නීවරණ ධර්මයන් ආහාර කොට ගෙනම, ප්‍රත්‍ය කොට ගෙනම වැඩෙන කර්ම

බීජ නැතිකර දමා සත්ත බොජ්ජංග ධර්මයන් උපැදීමට නම් ඒ සඳහාද අවශ්‍ය සුදුසු ආහාර දිය යුතුය. ඒනිසා සත්ත බොජ්ජංග ධර්මයන් වැඩීමට බාධක ආහාර පිට කිරීමත්, ආශ්‍රය නොකිරීමත් පිරිසිඳ දැන ක්‍රියා කිරීමෙන්ම සත්ත බොජ්ජංග ධර්මයන් වැඩෙයි. ආනාපාන සති සූත්‍ර දේශණාවේ පෙන්වා වදාළ "සබ්බකාය" මෙතැනදී ද පැහැදිළිකර දී ඇත. මෙතැන ආහාර යනු කබලිංකාර ආහාර, සංචේතනා ආහාර, ස්පර්ෂ ආහාර හා විඤ්ඤාණ ආහාර යන සතර කොටසටම අයත් ආහාර කොටස්මය. මේ ආහාර සතර වර්ගයේමත් භාවිතයට ගතයුතු යහපත් කොටසකුත්, භාවිතයට නොගතයුතු අයහපත් කොටසකුත් යැයි කොටස් දෙකක්ම වෙයි. සියලු ආහාර ගැනීමෙන් හෝ සියලු ආහාර නොගැනීමෙන් හෝ සත්ත බොජ්ජංගයන් වඩාගෙන නිවන් අවබෝධ කරගත නොහැකිය. අයහපත් ආහාර කොටස් භාවිතයට ගැනීමෙන් රාග, ද්වේෂ, මෝහ ගතිගුණ වැඩී කර්ම බීජ, "භව" උපත් ලැබෙයි. අයහපත් ආහාර බැහැර කිරීමෙන් හා යහපත් ආහාර භාවිතයට ගැනීමෙන් රාග, ද්වේෂ, මෝහ දුරුවී, සමාධිගත වන්නටත් උපේක්ඛා තත්ත්වයට සිත පත් වන්නටත් ශක්තිය ලැබෙයි.

මේ අනුව ආන - ඇතුළට ගැනීම හා පාන - පිට කිරීම යන්න පිළිබඳව නිවැරදිව තේරුම් ගැනීමම නිවන් අවබෝධයට ඉමහත් සේ උපකාරවන බව මෙහිදීත් ඉතාමත්ම පැහැදිළිය.

ආනාපානසතිය බහුලව නිතර නිතර වඩත්ම, කායානුපස්සනාව වැඩී, කය සංසිඳී, රාග, ද්වේෂ, මෝහ ගති ලක්ෂණවලින් තොරවූ සිත කය දෙකම විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිණාමී ව සති සම්බොජ්ජංගය වැඩෙයි. සති සම්බොජ්ජංගය වැඩීමත් සමගම ප්‍රීති සම්බොජ්ජංගය, විරිය සම්බොජ්ජංගය හා ධම්මවිචය සම්බොජ්ජංගය වැඩී ප්‍රීති, සුඛ, ඒකාග්ගතාවයන් හා කුසල් දහම් මෙනෙහි කිරීමද බහුල වෙයි. අකුසල දහම් බැහැර කිරීමද බහුල වෙයි. ඊළඟ පියවරේදී පස්සදි සම්බොජ්ජංගය, සමාධි සම්බොජ්ජංගය හා උපේක්ඛා සම්බොජ්ජංගය වැඩී සිත සමාදහං චිත්ත තත්ත්වයට පත් වී සමථය හා විපස්සනා නුවණ දෙකම පහළවීමත් සමගම ධම්මානු ධම්ම පස්සනාවත් පූර්ණ වෙයි.

මේ ආකාරයටම වේදනානුපස්සනාව වැඩී වේදනාව සංසිඳී ඒ ගති ලක්ෂණයන් නිසා නැවතත් සම්බොජ්ජංග හතම වැඩි, දියුණු වෙයි.

මේ ආකාරයටම චිත්තානුපස්සනාව හා ධම්මානුපස්සනාව සතර අවස්ථාවකදීම වැඩීමෙන් සත්ත සම්බොජ්ජංග පූර්ණ වෙයි. සතර අවස්ථාවේදීම විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිණාමී සත්ත සම්බෝජ්ජංගයන් වැඩීමත් සමගම නෙක්ඛම්ම උපේක්ඛා නුවණ පහළ වී විද්‍යා විමුක්තිය පූර්ණ වෙයි.

කායානුපස්සනාව වැඩී, කාය පස්සදිය ලැබීමත් සමඟින් සියලු ක්‍රියාවන් කෙරෙහි උපේක්ඛා සිතක් ඇතිවී නෙක්ඛම්ම උපෙක්ඛාව දියුණු වෙයි.

වේදනානුපස්සනාව වැඩී වේදනාව සංසිඳීමත් සමඟින් උපේක්ඛා සිතින් සියලු

වේදනා ඉවසා දරා, සොම්නස් වේදනා, දොම්නස් වේදනා දෙකම දුරුකර නෙක්ඛම්ම උපේක්ඛාව සම්පූර්ණ වෙයි. චිත්ත පස්සදිය වැඩී සිත සංසිඳීමත් සමගම සිතෙහි ද නෙක්ඛම්ම උපේක්ඛාව ඇතිවෙයි. ධම්මානුපස්සනාව පූර්ණවීමත් සමගම විපස්සනා නුවණ පහළ වී විද්‍යා විමුක්තිය පහළ වී නෙක්ඛම්ම උපේක්ඛාව සම්පූර්ණ වෙයි.

මේ ආකාරයට සතර සතිපට්ඨානය හා සත්ත සම්බොජ්ජංග මෙන්ම නෙක්ඛම්ම උපේක්ඛාවත් සම්පූර්ණ වීම නිසා අකුප්පා චේතෝ විමුක්තියත්, විද්‍යා විමුක්තියත් සම්පූර්ණ වී ප්‍රඥා විමුක්තියේ පිහිටීම සිදුවේ. මෙය නිවන් අවබෝධය පූර්ණ වී අරහත් ඵලයට පත්වීමයි. (මජ්ඣිම නිකායේ සළායතන විභංග සූත්‍රය)

ආනාපානසති සූත්‍ර දේශණාවෙන් පසුව ඊළඟටම මජ්ඣිම නිකායේ සඳහන් වන කායගතාසති සූත්‍ර දේශණාවෙහි හා ආනාපානසති සූත්‍ර දේශණාවෙහි එන කායානුපස්සනාවේද ප්‍රායෝගික වශයෙන් ඇත්තේ ඉතා සුළු වෙනස්කමකි. ආනාපාන සති සූත්‍ර දේශණාවේ එන කායානුපස්සනාවම විවිධ ආකාරයෙන් විස්තර සහිතව විග්‍රහකර පෙන්වීමක් කායගතාසති සූත්‍රයේදී විග්‍රහ කර ඇත. මෙහි තේරුම නම් ආනාපානසති භාවනාව සතිසම්පජානයෙන් යුත් ප්‍රඥා විමුක්ත හෝ උභතෝභාග විමුක්ත පුද්ගලයාට භාවිතයට සුදුසු වන අතර සද්ධානුසාරී හා ධම්මානුසාරී පුද්ගලයාට කායගතාසති භාවනාව භාවිතයට සුදුසු ලෙසින් විස්තර කර ප්‍රතිපදාව දීර්ඝ ලෙසින් පෙන්වා දී ඇත යන්නයි. ඒ විනා මෙම සූත්‍ර දෙකෙහි විශේෂ වෙනස්කමක් නැත. මෙසේ බුදුපියාණන් දේශණා කර වදාළ භාවනා කර්මස්ථාන අතරින් හැම අතින්ම සම්පූර්ණ ලෙස නිවන දක්වාම මඟ පෙන්වන වැදගත්ම සූත්‍ර දේශණාව වන්නේ ආනාපානසති සූත්‍ර දේශණාවයි. අනිකුත් සියලුම කර්මස්ථානයන්ද මෙහි ඇතුළත්ය.

## අරිය ආනාපානසති භාවනා ක්‍රමය හා අනරිය ලෞකික ආනාපානසති භාවනා ක්‍රමය අතර ඇති විශේෂ වෙනස්කම්

ආනාපානසති සූත්‍ර දේශණාවෙන් විස්තර වශයෙන් විග්‍රහ කර, ප්‍රකාශ කර පෙන්වා වදාළ අරිය ආනාපානසති භාවනා ක්‍රමය බුදුපියාණන්වහන්සේ ස්වයංභූ ඥාණයෙන්ම සොයා දැන, මතුකර, පෙන්වා වදාළ භාවනා ක්‍රමයකි. අනරිය ලෞකික ප්‍රාණයාම භාවනා ක්‍රමය අතීතයේ පටන්ම වේද ග්‍රන්ථවල සඳහන් උපනිෂද් ආගමේ භාවිතා කළ අනරිය භාවනා ක්‍රමයකි. මේ ආකාරයට මූලික වශයෙන්ම වෙනස්කම් ඇතිව ආනාපානසති භාවනාව යන නමින්ම භාවිතයේ ඇති භාවනා ක්‍රම දෙකක්ම ඇති බව හැම කෙනෙකුම තේරුම් ගත යුතුය. එකක් ලෞකිකය. අනික ලෝකෝත්තරය.

අතීතයේ ලොව ප්‍රචලිතව භාවිතා කළ මෙම අනරිය ලෞකික ආනාපානසති භාවනාව පිළිබඳව බුදුපියාණන්වහන්සේ තරම් කරුණු කාරණා දැන සිටි වෙනත් කෙනෙකු නොවූහ. ඊට හේතුව ගිහිගෙයින් නික්මුණු දා පටන්ම වසර හයක්ම ජම්බුද්වීපයේ එවකට පැවති සියලුම අනරිය භාවනා ක්‍රම ප්‍රායෝගිකවම අත්හදා බලමින්, ධුතාංග රකිමින්, වත්පිළිවෙත් පුරමින්, දහදුක් විඳිමින්, දුෂ්කර ක්‍රියා කළ නිසාය. ඒ අනරිය ක්‍රමවලින් ප්‍රාණයාම භාවනා ක්‍රමවලින් අනරිය ආනාපානසති භාවනා ක්‍රමය මගින්

ලබාගත හැකිවූ ධ්‍යානයන්ද ප්‍රායෝගිකවම ලබාගෙන පුද්ගලිකවම අත්විඳගෙන ලබාගතහැකි නිවනක්, විමුක්තියක් නොදුටු බුදුපියාණන්, ඒ සියලු අනරිය ක්‍රමයන් පසෙකලා මෙතෙක් භාවිතයේ නොපැවති අරිය ආනාපානසති භාවනා ක්‍රමය ස්වයංභූ ඥාණයෙන්ම සොයා දැන, භාවිතා කර ප්‍රඥා විමුක්තියට පත්වූ බව අරිය පර්යේෂණ සූත්‍රයේ පැහැදිලිවම දේශණා කර පෙන්වා ඇත. මෙතැනදී බුදුපියාණන් භාවිතා කළේ වේද ග්‍රන්ථවල එන ආනාපානසති භාවනාව නොවේ.

දහසක් දුක්විඳ අත්ථතාපනයෙහි යෙදී ධුතාංග රැක, වත්පිළිවෙත් පුරා සය වසරක් තුළ ලබාගත් ධ්‍යානයන් සියල්ලම ලෞකික වූත් භෞතික වූත් ඒවා මිස විද්‍යා විමුක්තියට පත්වී ලබන නිවනක් එහි නොවන බව බුදුපියාණන්වහන්සේම යථාපරිදි තේරුම් ගත් බව නිතර නිතර ප්‍රකාශ කර ඇත.

අනරිය භාවනා ක්‍රම භාවිතයෙන් ලබන අෂ්ට අභිඥාද යම් ආකාරයක රාගයෙන් ද්වේෂයෙන් වෙන්වූ එකකි. නමුත් මෝහයෙන් සහමුළින්ම ඉවත්වී ලබන විද්‍යා විමුක්තිය එහිදී නොලබන බවත් පැහැදිලිවම දේශණා කර ඇත. ලෞකික වූත් භෞතික වූත් පංච අභිඥා හා ඍර්ධි ප්‍රාතිහාර්යයන්ද පෑ හැකි මෙම අනරිය ධ්‍යානයන් උපදවා ගැනීමේ භාවනා ක්‍රමය බුදුපියාණන් සොයා දැනගත් දෙයක් හෝ බුද්ධ දේශණාවක් හෝ නොවේ. බුදුපියාණන් සොයා දැන දේශණාකළ ආනාපානසති භාවනා ක්‍රමය රාගයෙන් තොර, ද්වේෂයෙන් තොර, මෝහයෙන් තොර විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිනාමී විද්‍යා විමුක්තියම ළඟාකර දෙන භාවනා ක්‍රමයකි. එය අරිය මාර්ගයයි.

අද සම්මත වශයෙන් භාවිතා කරන අනරිය ආනාපාන සතිය භාවනා කිරීමට නම් කැලයකට, ආරණ්‍යයකට හෝ භාවනා මධ්‍යස්ථානයකට යාමත් එසේ ගොස් මිනිස් වාසයෙන් තරමක් දුරස්වී, තනිවී භාවනා කිරීමත් කළ යුතුය. මෙහිදී ලබාදෙන වැදගත්ම හා එකම උපදේශය සිතට අරමුණු වන සියලු ආකාර අරමුණු සිතින් ඉවත් කර හොඳ නරක සියලු අරමුණුවලින් ඉවත්වීමට ක්‍රියා කිරීමට පුරුදු වීමයි. මෙහිදී සිදුවන්නේ රාග, ද්වේෂ අරමුණු තාවකාලිකව යටපත්වී, සිත සංඥාවලින් තොරවී අසංඥ තත්ත්වයට පත්වීමයි. මේ ආනාපානසති භාවනාව වැඩීමට යම් ධර්මාවබෝධයක් හෝ සබ්බකාය පිරිසිඳ දැන ගැනීමක් හෝ අවශ්‍ය නොවේ. ඒ නිසා කිසිවිටෙකත් මෝහයේ, අවිද්‍යාවේ මුල් ගළවා විද්‍යා විමුක්තියට පත්වීම මෙහිදී සිදු නොවේ. අවිද්‍යාව දුරුවී, විද්‍යාව උපතක් නොලබන නිසාම ධ්‍යානයන් ලැබුවත් මෝහ මුල දිගින් දිගටම ක්‍රියාත්මක වෙයි.

අද භාවිතා කරන මෙම ලෞකික ආනාපානසති භාවනා ක්‍රමයට අනුව කය සෙළවීම, ඉරියව් වෙනස් කිරීම හෝ වෙනත් බාහිර බාධක, උපද්‍රව භාවනාව දිගටම පවත්වා ගෙන යන්නට නොහැකිවන බාධක හේතූන්ය. බලයෙන්, කෘතිම වශයෙන් තාවකාලිකව යටපත් කරගත් රාග, ද්වේෂ ගති ලක්ෂණයන් මෙවන් බාහිර බාධාවීම් සිදුවීමත් සමඟම නැවතත් මතුවී එයි. මෙහිදී මෝහ මූලය නොසිඳන නිසා මෝහ ගතිය සහමුළින්ම උදුරා ඉවත් නොකරන නිසා රාගය උපදවන, ද්වේෂය උපදන යම් අරමුණක්, දර්ශනයක් ශබ්දයක් නිසා ධ්‍යානය කඩා වැටෙයි. වසර පනහක් හෝ කැලයක භාවනා කර

සියලු ධ්‍යානයන් ලබාගත් කෙනෙකු පවා කැලයෙන් එළියට පැමිණ සාමාන්‍ය පෘථග්ජන ලෝකයේ ජීවත්වන විට දින ගණනකදී ධ්‍යානයෙන් පිරිහීගත් සාමාන්‍ය පුද්ගලයෙකු බවටම යළි පත්වෙයි. වසර ගණනක් දුක් විඳ ධුතාංග රැක උපයාගත් අනරිය ධ්‍යානයන් සහමුළින්ම නැතිවී යයි.

බුදුපියාණන් දේශණා කර වදාළ අරිය ධ්‍යානයන් එවැනි දේ නොවේ. යථාවබෝධයෙන්, ධර්මාවබෝධයෙන් සත්‍යය දැන තේරුම්ගෙන අරිය තත්ත්වයට පත්වූ උත්තමයෙකු නැවත කිසිදාක වසර සියයක් පෘථග්ජනයා අතර ජීවත් වූවත් රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් මුළා නොවෙයි. ධ්‍යානයන්, මාර්ග ඵලයන් පිරිහීමක් සිදු නොවෙයි. මෙහිදී අරඤ්ඤගතවීම, රුක්ඛමූලගතවීම, සුඤ්ඤාගාරගතවීම තම අධ්‍යාත්මයෙන් අභ්‍යන්තර වශයෙන් ඇති කරගන්නා ගතිගුණ සමුදායකි. ඒවාට හුරුපුරුදු වූ විට මහ සෙනඟක් මැදදී පවා මොහොතකින් සමාධි ගතවී සමාපත්තියෙහි පිහිටා ක්‍රියාකිරීමේ ශක්තියක් අරිය ධ්‍යානයන් ලැබූවෙකු සතුව පවතී.

මුලදී යම් ආකාරයක නිසල පරිසරයකට වී භාවනාව පුරුදු පුහුණු කරගත් පසුව, භාවනා කරන ඉරියව්ව හෝ ඉඳගෙන, හිටගෙන, ඇවිදිමින්, නිදියමින් සිටීම හෝ භාවනා කිරීමට බාධකයක්ද නොවේ. ඒනිසා සතර ඉරියව්වෙන්ම සතර සතිපට්ඨානයේම පිහිටා කටයුතු කිරීමේ ශක්තියක් බුදුපියාණන් පෙන්වා වදාළ අරිය ආනාපානසති භාවනා ක්‍රමයේ පවතී. යථාවබෝධය ලැබූ අරහතුන්වහන්සේ පැය විසිහතර මුළුල්ලේම සතර සතිපට්ඨානයෙන් යුතුවම සියලු කටයුතු කරයි. ඒ ලබාගත් සත්‍යාවබෝධය නිසාම සිදුවන්නකි.

අද භාවිතා කරනු ලබන අනරිය ආනාපානසති භාවනා ක්‍රමයේ උගන්වන පරිදි මුළින්ම සමථ භාවනාව වඩා සමථයට පත්වී දෙවන අවස්ථාවේදී විපස්සනා භාවනාව වෙත මාරුවීමක් ප්‍රකාශ කරයි. නමුත් බුදුපියාණන්වහන්සේ දේශණා කර වදාළ ආනාපානසති භාවනාව එවැන්නක් නොවේ. එය යුගනද්ධ භාවනාවකි. සමථ විපස්සනා වැඩීම යැයි දෙකක් එහි වෙන්කොට නැත. සමථ විපස්සනා දෙකම එකටම එක සමඟම වැඩෙන එකම භාවනා ක්‍රමයද මෙයයි. ඉන්ද්‍රියයන් හයම මෙහිදී එකවර සංවර වන නිසා තමන් දැන හෝ නොදැන සමථ විපස්සනා යැයි වෙන් කිරීමකින් තොරවම සතර සතිපට්ඨානයේම පිහිටීමත් සමඟම සත්ත බොජ්ජංග වැඩෙන්නට පටන් ගනී. මේ අනුව හුස්ම ගැනීම පිට කිරීම - පිම්බීම හැකිළීම මෙනෙහි කිරීමේදී පළමුව සමථය වඩා දෙවනුව විපස්සනාවට මාරුවිය යුතුයැයි ප්‍රකාශ කළත් එහිදී විපස්සනා භාවනාවක් සිදුවන්නේම නැත. අනිච්ච සංඥාව වැඩීමෙන් - සඤ්ඤාපටිලාභය විපස්සනා කිරීමත්, විරාග සංඥාව, නිරෝධ සංඥාව වැඩීමෙන් - දිට්ඨිපටිලාභය විපස්සනා කිරීමත්, පටිනිස්සග්ග සංඥාව වැඩීමෙන් - අත්ථපටිලාභ සංඥාව විපස්සනා කිරීමටත් හැකි වන්නේ අරිය ආනාපානසති භාවනාව වැඩීමේදී මිස පිම්බීම හැකිළීම අරමුණු කරගැනීමේදී නොවේ. මේ අනුව අද පුරුදු කරන පුහුණු කරන ආනාපානසති භාවනාව යැයි නම් කළ ක්‍රමයේ විපස්සනා භාවනාවක් සිදුවන්නේ යැයි අනුමානයෙන් වත් සිතිය නොහැකිය.

බුදුපියාණන් අර්ථ විග්‍රහ කර අනුදැන වදාළ අරිය ආනාපානසති භාවනාව සීල,

සමාධි, ප්‍රඥා යන අංගයන් තුනම ක්‍රමානුකූලව වැඩෙන භාවනා ක්‍රමයකි. සංවර, සංසිඳීම හා සම්මා යන අංග තුන සීල, සමාධි, ප්‍රඥා යන නම් වලින්ද බුද්ධ දේශණාවේ නම්කර ඇත. ඉන්ද්‍රියයන් හයම සංවරවීමත් සමඟ සංවර සීලයේ පිහිටීමත් කාය පස්සදිය, වේදනා පස්සදිය හා චිත්ත පස්සදිය සමඟ සංසිඳීම සිදුවන බවත් ධම්මානුපස්සනාව වැඩීමත් සමඟ ප්‍රඥාව පූර්ණ වී සම්මා අංග අටම පූර්ණවන බවත් අරිය ආනාපානසතියේ පෙන්වා වදාළ නිවන් මාර්ගයයි. අනරිය ආනාපානසතිය වැඩීමෙන්ද යම් සීලයක පිහිටන නිසා ශික්ෂණය වීමත් සංවර වීමත් සිදුවන අතර ප්‍රඥා විමුක්තියට පත්වීමට උපකාර වන විද්‍යා විමුක්තිය නම් පූර්ණ වීමක් සිදු වන්නේම නැත. ඒනිසා එය නිවනට උපකාර නොවන භාවනා ක්‍රමයක් බව කාටත් තේරුම් ගත හැකිය.

බුද්ධ දේශණාවේ අනුදැන වදාළ අරිය ආනාපානසති භාවනාව පෘථග්ජන, සේඛ, අසේඛ යන තුන් කොට්ඨාශයටම භාවිතයට සුදුසු භාවනා ක්‍රමයකි. බුදුපියාණන්වහන්සේ පවා බොහෝ අවස්ථාවල විවේක සුවයෙන් සති ගණන් වාසය කළේ මෙම ආනාපානසති භාවනාවේ යෙදෙමිනි. මේ බව බොහෝ සූත්‍ර දේශණාවල සඳහන්ය. මේ අනුව අරිය විනයෙහි දක්වා වදාළ ආනාපානසති භාවනා ක්‍රමය අරහත් බව ලබා නිවන් අවබෝධකරගත් අසේඛ උත්තමයන්ටත් මගඵල පූර්ණය කරන්නට උත්සාහ ගන්නා සේඛ පුද්ගලයින්ටත් අරිය තත්ත්වයට පත්වන්නට මං සොයන පෘථග්ජන පුද්ගලයින්ටත් එක සමානව භාවනා කළ හැකි මහත්ඵල ලබාදෙන මහානිසංස ඇති භාවනා ක්‍රමයකි.

මේ අනුව මෙහි සඳහන් කරුණු කාරණා කිහිප වරක් හෝ කියවා බලා තේරුම්ගෙන තමා තමා තුළින්ම ධර්මය අනුගමනය කර නිවන අත්විඳ ගන්නට උත්සාහ කරන්න. වචන හරඹයක යෙදී මෙවන් උතුම් ධර්මයක් යටපත් කරන්නට උත්සාහ දරණ බොහෝ උගත්තු එදා මෙන්ම අදත් සිටිති. හෙටත් එවැනි අය යම් යම් දෘෂ්ඨී වල එල්බගෙන කටයුතු කරනු ඇත. නිවන් අවබෝධ කරගන්නට උත්සාහ දරණ කෙනෙකු ලෙස මේ පොත කියවන ඔබ මෙහි සඳහන් අරිය මාර්ගය ප්‍රායෝගිකවම ක්‍රියාත්මක කර බලන්නටම උත්සාහ ගන්න. සුනේථ, ධාරේථ, චරේථ ධම්මෝ යන පියවරයන් තුනම සම්පූර්ණ වශයෙන් මෙම ආනාපානසති සූත්‍රයේ ඇති නිසා එය දැන අනුගමනය කර අත්විඳ ගැනීම හෝ නොසළකා මඟහැර අතරමංවීම ඔබටම අයත් කාර්යයයි. වගකීමයි.

## බුද්ධ භාෂිතයේ පෙන්වා වදාළ ඒකායන ප්‍රායෝගික නිවන් මාර්ගය (සතර සතිපට්ඨාන භාවනාව ඇසුරින්)

සියලුම බුදුපියාණන්වහන්සේලා ස්වයංභූ ඥාණයෙන්ම සොයා දැන ලෝකයාට දේශණාකර වදාරණු ලබන්නා වූ ප්‍රායෝගිකවම අනුගමනය කළ යුතු ප්‍රතිපත්ති මාර්ගය වන්නේ ගෝතම බුදුපියාණන් ද පෙන්වා වදාරා ඇති පරිදි සතර සතිපට්ඨාන භාවනාව පුරුදු කිරීමයි. ත්‍රිපිටක ධර්මය තුළම ගෝතම බුදුපියාණන්වහන්සේම දේශණා කර වදාළ සතිපට්ඨාන සූත්‍ර දේශණාවෙන් මජ්ඣිම නිකායේත් අංගුත්තර නිකායේත් සංයුක්ත නිකායේත් විවිධ නම් වලින් දේශණා කර ඇති අතර දීඝ නිකායේ එය "මහා සතර සතිපට්ඨාන සූත්‍ර දේශණාව" ලෙසින්ම නම් කර දේශණා කර වදාරා ඇත.

සතර සතිපට්ඨානය යනුවෙන් බුද්ධ දේශණාවෙහි පෙන්වා වදාළේ යථාවබෝධයෙන්ම භාවිත කළයුතු, භාවනා කළයුතු, නිතර නිතර පුරුද්දක් වශයෙන් ම අනුගමනය කළයුතු ප්‍රායෝගික වූ ප්‍රතිපත්ති මාලාවකි. මහා සතර සතිපට්ඨාන සූත්‍රයේ සඳහන් වන මාගධී පදවැල් කටපාඩම් කරගෙන, ඒවා මතක තබාගෙන, උදේ සවස සජ්ඣායනා කිරීමෙන් පමණක්ම කෙනෙකුට මේ ප්‍රායෝගික ක්‍රියාපිළිවෙත කිසිසේත්ම සම්පූර්ණ කරගත නොහැකිය. සතර සතිපට්ඨාන වැඩීම යනුවෙන් බුද්ධ දේශණාවෙහිදී අදහස් කරන ලද ප්‍රායෝගික ක්‍රියාපිළිවෙත උගත්කමෙන් හෝ බුද්ධිමත්කමෙන් හෝ පමණක්ම කරගත හැකි දෙයක් නොවන බවද අවධාරණයෙන්ම සඳහන් කළ යුතුය. ත්‍රිපිටක ධර්මයේ සඳහන් වන මාගධී පදවැල් කටපාඩමෙන් කියවීම හෝ ඒ පදවැල් ඉගෙන ගෙන ඒ මාගධී පදවලට තමන්ගේ දැනීම අනුව තමන්ගේ මතයට අනුව සිංහල බසින් අර්ථයන් ඉදිරිපත් කිරීමද සතර සතිපට්ඨාන භාවනාවක පිහිටා ක්‍රියා කිරීමක් නොවන්නේමය.

සතර සතිපට්ඨානය භාවනා කිරීම යනු "සතියෙහි පිහිටා සතියෙන් ක්‍රියා කිරීමට" යම් කෙනෙකු ප්‍රායෝගිකවම තමන්ම ලබාගන්නා පළපුරුද්දයි. මෙය ශික්ෂණයකි. තම සිතම පදම්කර ගැනීමකි. සතර සතිපට්ඨානයේ පිහිටා ක්‍රියා කරන්නට නම් ධර්මය අසා තමන්ම ලබාගත් නිවැරදි ධර්මාවබෝධයකුත් අසාදැනගත් ධර්ම මාර්ගය අනුගමනය කර තමන් ලබාගන්නා පළපුරුද්දත් යන දෙකම එක හා සමානවම වැදගත්ය. ධර්මාවබෝධය යනුවෙන් අදහස් කළේ හේතුඵල ධර්මාවබෝධයයි. පටිච්චසමුප්පාද ධර්මයයි. පටිච්චසමුප්පාද ධර්මයේ තිපරිවට්ටය අසා දැන ගැනීමයි. පළපුරුද්ද යනු පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයෙහි පෙන්වා වදාළ නිරෝධගාමී මාර්ග ප්‍රතිපදාව හා කුසලමූල මාර්ග ප්‍රතිපදාව ප්‍රායෝගිකවම යථාවබෝධයෙන් ම අනුගමනය කරන්නට පුරුදු පුහුණු වීමයි. ඒ සඳහා ලබා ගන්නා හා ඇති කරගන්නා හැකියාවයි. පළපුරුද්දයි. මේ අනුව බුද්ධ ධර්මයේ සඳහන් පටිච්චසමුප්පාද ධර්මය නිවැරදිවම තේරුම් නොගත් කෙනෙකුට සමුදය නිරෝධ කරන්නට නොදත් කෙනෙකුට කුසලමූල පටිච්චසමුප්පාද භාවිත කරන්නට නොදත් කෙනෙකුට නිවැරදි ධම්මානුධම්ම පටිපදාවක පිහිටා සතර සතිපට්ඨාන භාවනාවක යෙදී නියම ප්‍රතිඵල ලබා ගැනීමද කරගත නොහැකිය. එවැනි කෙනෙකුට "සතියෙන් ක්‍රියා කිරීම" යනු කුමක්දැයි යන්න පවා තේරුම් ගත නොහැකියි.

පෘථග්ජන පුද්ගලයින් ලෙස උපන් සෑම කෙනෙක්ම ඇස, කන, නාසය, දිව, කය, මන ආදී තම ඉන්ද්‍රියයන් හයම ආයතන හයක් බවට පරිවර්තනය කරගෙන විඤ්ඤාණයේ පැවැත්ම පවත්වාගෙන යාම සඳහා අවශ්‍ය වන ශක්තියක් (ආහාර) උපදවා ගන්නට විවිධාකාර වූ ක්‍රියාකාරකම් කරති. ප්‍රිය දේට ඇලීමෙන්, අප්‍රිය දේ සමඟ ගැටීමෙන් ද, මෝහයෙන් මුළා වීමෙන් ද මේ ශක්ති විශේෂය උපද්දවා ගනිති. මේ ශක්ති වේගයන් හයම ක්‍රියාවන් හයක් නිසාම සිතකම උපදින චිත්ත වේගයන්ය. මෙවන් වේගයන් උපදවා ගැනීමක් සිදු නොවන්නේ නම් විඤ්ඤාණයේ පැවැත්මට අවශ්‍යවන ආහාරද නොලැබෙයි. විඤ්ඤාණයෙන් කරන, කියන, හිතන සියලු ක්‍රියාකාරකම් කරන්නේ එහි පැවැත්මට අවශ්‍ය කරන ශක්තිය උපද්දවා ගැනීම සඳහායි. මෙවන් ශක්තියක් උත්පාදනය වන්නේ ඇස, කන, නාසය, දිව, කය, මනස යන ඉන්ද්‍රියන්හි මත්වීමේ ස්වභාවයක්, මත් වීමේ ගතියක් පවතින නිසාමයි. ප්‍රිය දේට ඇලීමෙන් මෙන් ම අප්‍රිය දේට ගැටීමෙන්ද,

මානයෙන්ද, මුළාවෙන්ද මේ මත්වීමේ ස්වභාවයට පත්වෙයි. මේ මත්වීමේ නියත ප්‍රතිඵලය වන්නේ වා, පිත්, සෙම් කෝප වී ලේ ධාතුව කිළිටි වීමයි. මෙය යමෙකුට දෘෂ්ටි ගතවීමටත්, මිත්‍යා දෘෂ්ටියට පත් වීමටත් හේතුවන නියත ක්‍රියාදාමයකි.

යම් කෙනෙක් බුද්ධ ධර්මය අසා දූන තේරුම් ගෙන සතර සතිපට්ඨාන භාවනාවක යෙදීමෙන් ඉෂ්ට සිද්ධ කරගත යුත්තේ තමා තුළින්ම මතුවන මෙවන් වූ ක්‍රියාවන්හි වේගය සංසිඳුවා ගැනීමට පුරුදු වීමයි. කායේ කායානුපස්සනාව යනු ඇස, කන, නාසය, දිව, කය, මනස යන ආයතන හයකින් විඤ්ඤාණ ශක්තියක් උත්පාදනය කරන බව දූනගෙන ඒ ක්‍රියාවන්හි වේගය සංසිඳුවා ගැනීමයි. මේ ක්‍රියාවන් නිසා උපදින වේගය විනා වෙනත් කිසිම ශක්ති විශේෂයක් මේ පංචස්කන්ධ ශරීරය තුළින් උත්පාදනය නොවේ. මෙවැනි ක්‍රියාවලින් උත්පාදනය වන ශක්තිය නිසා සංසාර ගමනක්, රිය ගමනක් ලෙසින් හේතුඵල පරම්පරාවක් නොකඩවාම දිගින් දිගටම පවත්වාගෙන යාමට ක්‍රමවේදයක්ද සකස් වෙයි. ඇසට රූපයක් පටිච්ච වීමෙන් ශක්තියක් උත්පාදනය වෙයි. මේ ශක්තිය චක්ඛු විඤ්ඤාණ ශක්තිය ලෙසින් නම් කර ඇත. කනට ශබ්දයක් පටිච්ච වීමෙන් සෝත විඤ්ඤාණ ශක්තිය ද, නාසයට ගඳක් සුවඳක් පටිච්ච වීමෙන් ඝාණ විඤ්ඤාණ ශක්තියද, දිවට රසක් පටිච්ච වීමෙන් ජිව්හා විඤ්ඤාණ ශක්තියද, මනසට ධම්මයක් අරමුණු වී පටිච්ච වීමෙන් මනෝ විඤ්ඤාණ ශක්තියද උත්පාදනය වෙයි. මේ හය ආකාරයට පරිබාහිර වූ වෙනත් කිසිම ශක්ති විශේෂයක් මේ ශරීර කුඩුව තුළින් උත්පාදනය වන්නේද නැත. මේ හය ආකාර වූ විඤ්ඤාණ ශක්තීන්ට ම බුද්ධ ධර්මයේ එක පොදු නමක් භාවිත කරයි. ඒ පොදු නම, සමුදය (සං උදය) ශක්තිය යන නමයි. සමුදය ශක්තියෙන් තොර වූ විටෙක දිගින් දිගටම සංසාර ගමනක් පවත්වාගෙන යන්නට උපකාර වන (සංභව) විඤ්ඤාණ බීජයන් සකස් වන්නේද නැත. "භව" යනුවෙන් පටිච්චසමුප්පාද විග්‍රහයේ පෙන්වූ අවස්ථාව "විඤ්ඤාණ බීජ" සකස් කරගන්නා අවස්ථාවයි. විඤ්ඤාණ බීජයක් සකස් වී එය චිත්තසංථානයේ ගබඩා වීමෙන් ඊළඟට "ජාති" යන අවස්ථාවද උදාවෙයි. "භව පච්චයා ජාති" යැයි පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයෙහි සඳහන් වන්නේ විඤ්ඤාණ බීජ සකස් වන අවස්ථාව හා විඤ්ඤාණ බීජය උප්පජ්ජති යන අවස්ථාවට පත්වීමයි.

සමුදය ශක්තිය පාලනය කර විඤ්ඤාණ බීජ නිපදවීමේ ක්‍රියාවලිය නවත්වාගත හැකි එකම උපාය මාර්ගය වන්නේ සමුදය ශක්තීන් උත්පාදනය කරන්නා වූ ක්‍රියාවන්හි වේගය, ශක්තිය පාලනය කර, ප්‍රහාණය කර ඉන්ද්‍රියයන් හයම සංවර කර ගැනීමයි. මේ ක්‍රියාවන්හි වේගය පාලනය කර කෙළෙස් ශක්තිය ප්‍රහාණය කිරීම "කායේ කායානුපස්සනාව" ලෙසින් මාගධී පදවලින් සතර සතිපට්ඨාන සූත්‍ර දේශණාවෙහිදී ඉතාමත්ම පැහැදිළිව දේශණා කර පෙන්වා වදාරා ඇත. "සබ්බ කාය පටිසංවේදී" යනුවෙන් විග්‍රහ කර පෙන්වා වදාළේ පටිච්ච වීම නිදාන කොට, හේතුව කොට, "සං" උපතක් ලබන සියලු ආකාර වූ ක්‍රියාකාරකම්වලින් උත්පාදනය වන ශක්තිය පාලනය කිරීම සඳහා මඟ පෙන්වූ ප්‍රතිපදාවයි. ක්‍රමවේදයයි.

"අස්ස" යනු ඒ කෙළෙස් ප්‍රහාණය කිරීමේ ප්‍රතිපදාව අනුගමනය කිරීමේදී ආශ්‍රය කළයුතු, භාවිත කළයුතු, බහුලව භාවිත කළයුතු, මෙනෙහි කළයුතු යහපත් ක්‍රියා පටිපාටියයි. "පස්ස" යනු ඒ පටිපදාව අනුගමනය කිරීමේදී ආශ්‍රයෙන් ඉවත්කර ප්‍රහාණය

කළයුතු ප්‍රහාණය කර බැහැර කළ යුතු අයහපත් දේ පිළිබඳවයි. මෙයම සේවිතබ්බා අසේවිතබ්බා යනුවෙන් ද වෙනම සූත්‍ර ධර්මයකින් පැහැදිළි කර විග්‍රහ කර දී ඇත. ක්‍රියා හයකින් උපදින කෙළෙස් වේගයන් සංසිඳවා ගැනීම කායේ කායානුපස්සනාව ලෙසින් විග්‍රහ කර දුන් පසුව කෙළෙස් නිසාම උපදින වේදනාවද, වින්දනයද, වේගයද සංසිඳෙන නිසා එය වේදනා වේදනානුපස්සනාව ලෙසින් විග්‍රහ කර ඇත. ක්‍රියාවේ වේගය හා වේදනාවේ වේගය සංසිඳීම හේතු කොටගෙන චිත්ත ආවේගය ද සංසිඳවීමට පටන් ගනී. එය චිත්තේ චිත්තානුපස්සනාව ලෙසින් විග්‍රහ කර දී ඇත. දූන් මත්වන ස්වභාවයක් නැත. ධම්මේසු ධම්මානුපස්සනාව අනුගමනය කිරීම සඳහා අනිච්ච, දුක්ඛ, අනත්ථ යන ත්‍රිලක්ඛණය නිවැරදි ලෙසම අවබෝධ කරගෙන හැම "පටිච්ච" වන අවස්ථාවකදීම ඒ පටිච්ච වීමේ ප්‍රතිඵලය ලෙසින් සමුදය ධර්මයක් ද බිහිවන බව දූක සමුදය නිරෝධ කිරීම සඳහාම "අනිච්ච, දුක්ඛ, අනත්ථ" අනුපස්සනාවන් මෙනෙහි කර නිබ්බිදානුපස්සනාව, විරාගානුපස්සනාව, නිරෝධානුපස්සනාව මෙන්ම පටිනිස්සග්ගානුපස්සනාව යථාවබෝධයෙන්ම භාවනා කිරීම, භාවිත කිරීම ධම්මානුපස්සනාවයි.

පටිච්චසමුප්පාද ධර්මය නොදූන රූප ආදී අරමුණකට පටිච්චවීම නිසා තම සිත තුළම උත්පාදනය වන සමුදය ධර්මය උපදින ආකාරය තේරුම් නොගෙන සංසාර ගමනක යෙදෙමින් දුක් විඳින්නට මුල් වන්නා වූ නිදාන වන්නා වූ හේතූන් ද දූක ගත නොහැකිය. සියලුම සමුදය ධර්මයන් උපත ලබන්නේම තම සිත තුළම බවත් සමුදය ධර්මයක් උත්පාදනය වීම නිසාම උපත ලැබූ "සං" ශක්තිය චිත්තසංථානය තුළම ගබඩා වන ආකාරයත් චිත්තසංථානයේ ගබඩා වූ "සං" ශක්තිය විඤ්ඤාණ ආහාර ලෙසින් හා විඤ්ඤාණ බීජ ලෙසින් සිත තුළදීම සකස් වන ආකාරයත් තමන්ටම තමා තුළින්ම දූකගත හැකි වන්නේ තමන් පටිච්චසමුප්පාද ධර්මාවබෝධය ලැබූ පමණටමයි. සංඛාර කිරීමට යම් කෙනෙකු නිරතුරුවම පෙළඹෙන්නේ රුචිකමක් දක්වන්නේ විඤ්ඤාණයට වහල් වී හිතට වහල් වී ක්‍රියා කරන නිසාමයි. මෙය හිතට වහල් වීම, හැඟීමට වහල් වීම ලෙසින්ද අපට සරළ ලෙසින් පෙන්වා දිය හැකි පෘථග්ජන ගතියයි.

"සං" උත්පාදනය වන ආකාරය හා "සං" ශක්තිය චිත්තසංථානයේ තැන්පත් වන ආකාරය හා ජීවිතය පවත්වාගෙන යන්නට "සං" ශක්තිය උපයෝගි කර ගන්නා ආකාරයත් විඤ්ඤාණ බීජ වශයෙන් මතු උපතක් සහතික කරගන්නට සමුදය ශක්තියම සකස්වන ආකාරයත් නිවැරදිවම තේරුම් ගෙන අවබෝධ කරගත් තැනැත්තා "ධම්මෝ සංදිට්ඨිකෝ" යන තත්ත්වයට පත් වූවකු බවටද පත්වෙයි. "සං" දූක නොගත් කෙනෙකුට සංසාර දුකින් නිදහස් වීමේ මාර්ගය දූකගත් කෙනෙකු යැයි ප්‍රකාශ කළ නොහැකිය. තම සිත කිළිටි වී, ලේ ධාතුව කිළිටි වී, සංකිළිට්ඨේන තත්ත්වයට පත්වීමෙන් තමාගේම මනසේ මනසිකරණ ශක්තියත් දුර්වල වී, මැනීමේ ශක්තිය නැතිව යන බව දූන ගන්නට දූක ගන්නට නොහැකි වීමද සංදිට්ඨිකෝ නොවීමේම ප්‍රතිඵලයකි. අවිද්‍යාව, නොදන්නාකම, මෝඩකම, මොට්ටකම, මෝහය මෙන්ම අස්මිමානය යන ගති උපත ලබන්නේද තමන්ම උපදවාගත් සමුදය ශක්තිය තමන්ම තම චිත්තසංථානයේම ගබඩා කර ගැනීමෙන්මයි.

යම් කෙනෙකුට සතර සතිපට්ඨාන භාවනාව කිරීමට අවශ්‍ය වන්නාවූ නිවැරදි

අවබෝධයක් ලබාගත හැකි වන්නේ තමා තුළින් ම සමුදය උත්පාදනය වන ආකාරය දැක, තමා තුළින් ම උත්පාදනය වන මේ සමුදය ශක්තිය තමාටම නිර්උදා කර ගත හැකි ක්‍රමවේදයක් ද ඇති බවත් නිවැරදිවම දැනගෙන ඒ නිවැරදි නිරෝධගාමී මාර්ගයම අනුගමනය කිරීමෙනි. මේ ප්‍රතිපදාව හේතුඵල දහමට බහා ගළපා බලා සතියෙන් ක්‍රියා කිරීමට පුරුදු වීමයි. ක්‍රියාවේ වේගය නිරෝධ වන ආකාරයත් නිවැරදිවම තමන් තුළින්ම දැකගැනීමට හැකිවීම "කායානුපස්සනාව" වැඩීමට බලවත් සේම උපකාර වන්නකි. ක්‍රියාවේ වේගය සංසිඳවා ගත හැකි වන්නේ එවන් අවබෝධයකිනි.

සංඛාරයක් නිසා වේගයක්, ශක්තියක් උත්පාදනය වන්නේම "පටිච්ච" වීම හේතුව කොටගෙනමය. පටිච්ච වීම යනු රාගයෙන් ක්‍රියාකරන කෙනෙකු තමාගේ ඇස, කන වැනි ඉන්ද්‍රියයන් පිනවන ප්‍රිය දේවලට ඇලීම නිසා මත්වීමෙන් එයම ඒ ප්‍රිය දේම උපාදානය කර ගැනීමේ ගතිය සහ තමාගේ ම ඇස, කන වැනි ඉන්ද්‍රියයන් අප්‍රිය කරන දෙයක් නම් ඒවා සමඟින් ගැටීමක් ඇති වී ද්වේෂයක් සිතෙහි උපත ලැබීමත් යන සංසාර පුරුද්ද නිසා සිත මත්වීමයි. ප්‍රිය, අප්‍රිය යන අන්ත දෙක අතර සිදුවන මුළාව නිසාද සිතේ මතුවන මානය, මෝහය යන ගතිද තමා තුළම පැවැත්වීමයි. මේ ගති සංසාරයේ පුරුදු කරගත්, පුහුණු කරගත් දිගටම පවත්වා ගෙන ආ ගති කිහිපයකි. ප්‍රිය, අප්‍රිය යන ගති පුරුද්ද තම සිතේ පවතිනා තුරාවට පටිච්ච වීමද සිදුවෙයි. ප්‍රිය දේට ඇලෙයි. අප්‍රිය දේ සමඟ ගැටෙයි. පටිච්ච වීමෙන් "සං" උප්පාදනය වෙයි. සමුදය බිහිවෙයි. රිය ගමනට අවශ්‍ය ශක්තිය උපද්දවා ගනී. එය මත්වීමකි.

පෘථග්ජන පුද්ගලයෙක් යම්කිසි සතුටක් ලබනවාය, සැප විඳිනවාය, සංතෝස වෙනවාය යනු තමන් ප්‍රිය කරන දේට ඇලී, සම්බන්ධවීම හෝ අප්‍රිය දේවලින් වෙන්වීම හෝ යන අන්ත දෙකට පත්වීමයි. ප්‍රිය, අප්‍රිය යන අන්ත දෙකට ම අයත් වන ඊට අදාළ වූ ක්‍රියාදාමයකට ඇලීම බැඳීම හෝ ගැටීම ඉන්ද්‍රියයන් පිනවීමක්ම පමණි. ඇස, කන ආදී ඉන්ද්‍රියයන් පිනවීමෙන් ලබන ආමිස සුවයක් ගැන මිස නිරාමිස සුවයක් ඇති බව හෝ එවන් සුවයක් ලබා ගත හැකි බවක් හෝ ඒ සඳහා අනුගමනය කළ යුතු ක්‍රියාපටිපදාවක් ඇති බව හෝ පෘථග්ජන පුද්ගලයෙකුට කල්පනා කළ නොහැකියි. ප්‍රිය හා අප්‍රිය අන්තවලට ඇලීමෙන් හෝ ගැටීමෙන් හෝ ඉන්ද්‍රියයන් පිනවීමේ සංසාර පුරුද්දක් පවතින තාක් කල්ම තමන්ම දුක්විඳිමින් සංසාර ගමනක නොනවත්වා ම ගමන් කරනු මිස සසර දුකින් නිදහස් වන නිවැරදි මාර්ගයක් ගැන නම් නිසි අවබෝධයක් ලැබෙන්නේ ද නැත.

ප්‍රිය දේට අන්තවාදී ලෙසින් ඇලීමක් සිදු නොවන්නට ක්‍රියා කළහොත් හා අප්‍රිය දේට අන්තගාමී ලෙසින් ද්වේෂ නොකරන්නටද ක්‍රියා කළහොත් මෝහයෙන් මානයෙන් මුළාවීමක් සිදු නොවන්නටද ක්‍රියා කළහොත් රූපාදී ආරම්මණයන්ට පටිච්ච වීමක් ද සිදු නොවන නිසා සිත කිළිටිවන සමුදය ශක්තියක්ද උත්පාද නොවන නිසා එතැනදී සිත නිදහස් වෙයි. එයම කායේ කායානුපස්සනාවෙහි පිහිටා ක්‍රියා කිරීමයි. ප්‍රිය දේට ඇලෙන, රාගයෙන් ක්‍රියා කරන ගතියත්, අප්‍රිය දේට ගැටෙන ද්වේෂයෙන් ක්‍රියා කරන ගතියත්, මානයෙන්, මමත්වයෙන් ක්‍රියා කරන මෝහ ගතියත් යන ගති තුනම ඒ ඒ පුද්ගලයා ම දීර්ඝ සංසාරයේදී පුරුදු ලෙසින් කාලාන්තරයක් පුරාම පුරුදු පුහුණු කරගෙන ආ ඒ ඒ පුද්ගලයාගේම චිත්තසංථානයේම තදින්ම මුල්බැසගත් ගති පුරුදු තුනකි. තමා තුළ

මෙවැනි ගති පුරුදු තුනක් මුල් බැස ගෙන ක්‍රියාත්මක වෙමින් පවතින බව තමන්ටම දැකගන්නට නොහැකිවීම සියළු දුක් උරුම වන්නට, සියලු දුක් විඳවන්නට මුල් වූ ප්‍රධානම හේතුවයි. හේතුව පටිච්චවීම ලෙසත් ඵලය සමුදය බිහිවීම ලෙසත් තමා තුළින්ම දැක හේතුව හා ඵලය යන දෙකම දැක ගත් පසුව හේතුවක් නිසාම චිත්තසංථානය කිළිටි වන බව තේරුම් ගෙන හේතුවෙන්ම නිදහස් වී ඵලයද උරුම නොවන්නට ක්‍රියා කළ හැකි බව යථා පරිදි දැක තම චිත්තසංථානය කිළිටිවන ක්‍රියාවන්ගෙන් බැහැරවීමත් තම චිත්තසංථානය පිරිසිදු වන ක්‍රියාවන් භාවිතා කිරීමත් යන ප්‍රතිපදාව පිරීම සතර සති පට්ඨානයෙන් ක්‍රියා කිරීමයි. හේතුව යහපත් නම් සිත පිරිසිදු කරන ආකාරයේ ක්‍රියාවක් නම් ඉන් සමුදය බිහි නොකරයි නම් එයම භාවිතා කිරීම, බහුලවම භාවිතා කිරීම සතර සතිපට්ඨානයෙහි පිහිටා ක්‍රියා කිරීමයි.

සතියෙන් ක්‍රියා කිරීම සතියෙහි පිහිටා ක්‍රියා කිරීම සතර සතිපට්ඨානය භාවනා කිරීම යනුවෙන් අදහස් කරන මෙම ක්‍රියාවෙහි "සති" යන මාගධී පදයේ අර්ථය අද වන විට හොඳ සිහියෙන් ක්‍රියා කිරීම ලෙසින් අර්ථ ගන්වා වැරදි ආකාරයට භාවිතා කරන බව පෙන්වා දිය යුතුය. "සති" යන මාගධී පදයෙන් අදහස් කළේ හොඳ සිහිය යන ව්‍යවහාර අර්ථයට වඩා ඉතාමත් ගැඹුරු අර්ථයකි. සතියෙහි පිහිටා කටයුතු කරන යම් කෙනෙකුට තමන් කරන, කියන, හිතන දේ නිසා තමන්ටම මතු උරුම ඵල විපාකයන් ගැනද යථාපරිදි දැක ගන්නට ලැබෙන නිසා අපායගාමී ඵල විපාක ලැබෙන බව දැක දැකම ඒ ක්‍රියාවෙහි සිත නොයොදනු ඇත. මේ අනුව සතියෙහි පිහිටා සතියෙන් යුතුව ක්‍රියාකරන කෙනෙකු බවට පත් වන්නේ තමා කරන ක්‍රියාව නිසා මතු තමාටම උරුමවන ඵල විපාකද යථා පරිදිම දැනගත් දැකගත් කෙනෙකුනම් පමණි. අයහපත් ඵල විපාකයක් තමාට උරුමවන බව දැක දැකම යම් කිසි ක්‍රියාවක්, කථාවක්, සිතුවිල්ලක් ක්‍රියාත්මක කරන්නට සතියෙන් ක්‍රියා කරන්නෙකුට නම් කළ නොහැකිය. නමුත් හේතුඵල දහම නොදත්, උගත්, බුද්ධිමත් අය බොහෝ දෙනෙකු පවා ලාභය, ආස්වාදය, කීර්තිය, ප්‍රසංසාව පමණක් බලාගෙන බොහෝමයක්ම අපායගාමී ක්‍රියාකාරකම් ඉතාමත් හොඳ සිහියෙන් යුතුවම ක්‍රියාත්මක කරති. ඒ ඔවුන් සතියෙන් ක්‍රියා නොකරන නිසාය. හේතුව හා ඵලය යන දෙකම නොදකින නිසයි. තමන්ට උරුමවන අයහපත් ඵලවිපාකය නොදකින හෙයිනි.

මේ අනුව බුද්ධභාෂිතයේ පෙන්වා වදාළ සතියෙහි පිහිටා, සතියෙන් ක්‍රියාකිරීම යනු හේතුඵල ධර්මය දැනගෙනම, හේතුඵල ධර්මයට බහා ගළපා බලාම කටයුතු කිරීමට පුරුදුවීමයි. මෙසේ සතියෙහි පිහිටා ක්‍රියාකිරීමටද යම් පළපුරුද්දක්, පුහුණුවක් ලබාගත යුතුමයි. මෙතෙක් කාලයක් සංසාරයේ පුරුදු වී පුහුණු වී සිටියේ ප්‍රිය දේට කැමැත්තෙන්ම ඇලීමටයි. අප්‍රිය දේ සමඟින් ගැටීමටයි. මෙය හිතට වහල් වී, හැඟීමට වහල් වී කටයුතු කිරීමකි. දැන් හිතට වහල් නොවී, හැඟීමට වහල් නොවී හේතුඵල ධර්මයට බහා ගළපා බලා කොතරම් ප්‍රිය දෙයක් වුවත් එහි ඵලය අහිතකර නම් එය බැහැර කිරීමටත්, ඒ ක්‍රියාව නොකර ඉන් වැළකී සිටීමටත් ක්‍රියාව අප්‍රිය නමුත් ඵලය යහපත් නම් එය භාවිතා කිරීමටත් පුරුදු වීමයි. හේතුඵල දහම අසා, ධර්මය තේරුම් ගෙන, පටිච්ච සමුප්පාද ධර්මය දැක, කළු, සුදු ද්වතාව වෙන් කොට තෝරාගෙන කළු ධර්ම බැහැර කිරීමත්, සුදු ධර්ම භාවිතා කිරීමත් යනු සතියෙන් ක්‍රියාකිරීම ලෙසින්ද අර්ථකථනය කළ හැක. මෙසේ සතියෙන් යුතුව ක්‍රියා කරන්නට පුරුදු පුහුණු වීම සතර සතිපට්ඨාන භාවනාව භාවනා කිරීම යැයි ද පෙන්වා දිය හැකියි.

උගත්කම, බුද්ධිමත්කම බොහෝ අවස්ථාවන්හී දී සතියෙන් ක්‍රියාකරන්නට බාධාවක් ද විය හැකිය. පෘථග්ජන මිනිස්සු හේතුඵල ධර්මය නොදන උගතුන්, බුද්ධිමතුන් බවට පත්වූ විට ඒ ඉගෙන ගත් දේ නිසාම ඒ දැනුම නිසාම මත් වෙති. මේ නිසාම බුද්ධිමත් යන පදයද ව්‍යවහාර භාෂාවෙහි දී භාවිතා කරයි. බුද්ධියෙන් මත්වූවෙකුට හේතුඵල ධර්මයට බහා ගළපා බලන්නට හෝ ඊට අනුරූපව ක්‍රියාකරන්නට හෝ පළපුරුද්දක් නැත්නම් ඔහු නියත වශයෙන්ම ලාභයෙන්, ආස්වාදයෙන්, ආත්මලාභයෙන් මත් වී ක්‍රියා කරන්නෙකු බවටද පත්වී අපායගාමී විය හැකියි. උගත්කමෙන්, බුද්ධිමත්කමෙන් මත්වූවෙකුට හේතුඵල ධර්මය හෝ ද්වතාව ධර්මය හෝ තේරුම් ගන්නට නොහැකි වූවොත් ඔහු නිරන්තරයෙන්ම කටයුතු කරන්නේ හැකිතාක් දේ (පංචස්කන්ධය) උපාදානය කරගන්නටමය. ඉන් සෑහීමකට පත් වීමක් හෝ තෘප්තියක් හෝ ලබන්නේද නොවේ. මෙවන් වූ බුද්ධිමතෙක් ඉතා හොඳ සිහියෙන් උපායෙන් යුතුව ක්‍රියා කරන කෙනෙකි. නමුත් සතියෙන් ක්‍රියා කරන කෙනෙකු නම් නොවේ. ඔහු එකතු කරගත් දේ ඔහුටම බරක් වී, බැම්මක් වී, සංයෝජනයක් වී, භයට මුල් වන හේතුවක් වී,ඔහු සංසාර දුකටම පත් වීමද නියත වශයෙන් සිදු වෙයි. ඒ අසතියෙන් ක්‍රියා කිරීම නිසා අත්වන නියත ප්‍රතිවිපාකයයි.

උගත්කම, බුද්ධිමත්කම අඩු පුද්ගලයෙකුට පවා හේතුඵල ධර්මය, ද්වතාව ධර්මය යම් ප්‍රමාණයකට අසා දන තේරුම්ගෙන සතියෙහි පිහිටා ක්‍රියා කරන්නට යම් පුරුද්දක් පුහුණුවක් ලබාගත් පසුව ඔහු මොහොතින් මොහොතම නිවුණු පුද්ගලයකු බවට නිදහස් පුද්ගලයකු බවටම පත්වෙයි. බැඳීම් වලින් තොර වූ උපාදානයෙන් තොරවූ කෙනෙකුට භයට, කම්පා වීමට හේතුවක් ද නැත. ඔහු නිවන කරාම ගමන් කරන්නකු බවට පත්වෙයි. මේ අනුව උගත්කම, බුද්ධිමත්කම, දැනුවත්කම යන දේවල් සම්මත ලෝකයේ ලෞකිකත්වය තුළ වටිනා, වැදගත් දේ ලෙසින් සැළකුවත් ලෝකෝත්තර වශයෙන් වැදගත් වන්නේ හේතුඵල දහමට බහා ගළපා බලා ක්‍රියා කරන්නකු ලෙසින් ලබාගත් පලපුරුද්ද හා පුහුණුවයි. මෙයම සමුදය නිරෝධ කිරීමේ පුරුද්දයි. හැකියාවයි.

සියලුම පෘථග්ජන පුද්ගලයින් සාරවත් යැයි කල්පනා කරන්නේත්, වටිනවා යැයි සිතන්නේත්, සුළු මොහොතකට හෝ තමාගේම ඉන්ද්‍රියයන් පිනවීමෙන් ලබාගන්නා තාවකාලික සුවය, සතුට, ලාභය හෝ සැපය ගැන පමණි. ඉන්ද්‍රියයන් පිනවා මොහොතකට ලබා ගන්නා වූ සැපත, සුවය සඳහා කරන, කියන, හිතන දේම හේතුවක් ලෙසින් ක්‍රියාත්මක වී තමන්ටම ආපසු උරුම වන ඵල විපාකයන් කුමන ආකාරයක ඒවාදැයි දැක ගන්නට නම් ඒ සඳහා ද පළපුරුද්දක් ශක්තියක් ඇතිකර ගත යුතුමය. හේතුව හා ඵලය යන දෙකම මනා කොට දැකගෙන තමා කරන යම් ක්‍රියාවක් නිසා තමාටම ආපසු මතුවට උරුම වන ඵලය යළිත් තමාටම බරක් වේ නම්, බැම්මක් වේ නම්, භයට හේතුවක් වේ නම් එය තමාටම පලිබෝධයක් වේ නම් ඒ ක්‍රියාව නොකර නිදහස් වීමට පුරුදු වීම සතියෙන් ක්‍රියා කිරීමයි. සතියෙහි පිහිටා කටයුතු කිරීමයි.

මොහොතකට තමන් ලබන ලාභයට, ආස්වාදයට, සුවයට, තමන්ම මුළාවී, හිතට වහල්වී, ඉන්ද්‍රියයන් පිනවන්නට ක්‍රියා කළහොත් එහි නියත ඵල විපාක ලෙසින් සංසාරය පුරාම දිගින් දිගටම තමන්ටම විඳින්නට උරුම වන ආදීනව හා ආනිසංස ගැන නොසළකා

ක්‍රියා කිරීම යනු අසතියයි. සතියෙහි පිහිටා ක්‍රියා නොකිරීමයි. අසතියෙන් ක්‍රියා කිරීමයි. හේතුඵල දහමට බහා ගළපා බලා ද්වතාව ධර්මයට බහා ගළපා බලා කළයුතු දේ හා නොකළ යුතු දේ මෙන්ම මෙනෙහි කළයුතු ධර්ම මෙනෙහි කිරීමත් මෙනෙහි නොකළ යුතු අධර්මය මෙනෙහි නොකර බැහැර කිරීමත් යන දෙක පුරුදු පුහුණු කරගත හැකි වන්නේ සතර සතිපට්ඨානයෙන්ම යුතුව කටයුතු කිරීමෙනි. අතීත සංසාර පුරුද්දට පටහැනි වූ මෙම අලුත් පුරුද්ද උත්සාහයෙන්ම, අවබෝධයෙන්ම තමා තුළින්ම ඇති කර ගත යුතු මෙතෙක් තමා තුළ නොතිබූ අලුත්ම විධියේ පුරුද්දකි.

රූපාරම්මණයක් ආදී වශයෙන් සිතට ස්පර්ශ වූ යම් ප්‍රිය හැඟීමකට, ප්‍රිය අරමුණකට වහල් වී ඒ අරමුණ දිගේම දිගටම සිතුවිලි පවත්වමින් රූප රාගයෙන් සිත මත්වීම නිසා ඒ ප්‍රිය රූපයම උපාදානය කරගන්නට දරණ උත්සාහයද දුකකි. රූපය උපාදානය කරගත්තේ නම් එයද බරකි, බැම්මකි. දුකටම හේතුවකි. ප්‍රිය රූපය උපාදානය කරගන්නට නොහැකි වූයේ නම් එයද බලවත්ම දුකකි. මේ අනුව අරමුණකට තදින් බැඳීම කුමන ආකාරයෙන් සිතා බැලුවත් දුකකි.

රූප සංඥාවක් ඇසට ස්පර්ශ වූ වහාම එය පිළිබඳව යථාපරිදි දැනගෙන උපේක්ඛාවෙන් සළකා ඉවසීමෙන් විමසා බලා හේතුව හා ඵලය යන දෙකම පිළිබඳවත් යථාපරිදි තේරුම් ගෙන කටයුතු කළහොත් ඒ රූපාරම්මණය කොතරම් ප්‍රිය හෝ අප්‍රිය හෝ එකක් වූවත් එයට පටිච්ච නොවී දහසක් දුක් දොම්නස් වේදනාවලින් සදහටම අතමිදී නිදහස් විය හැකි බවත් තේරුම් ගෙන සතියෙහි පිහිටා ක්‍රියා කරමින් ලබන නිදහස, නිවන් දැකීමේ මාර්ගය අනුගමනය කිරීමයි. මෙයම සම්මා දිට්ඨියෙන් ක්‍රියා කිරීමයි. මේ අනුව හොඳ සිහිය යනුවෙන් පෙන්වූ දේ ලෞකික වශයෙන් නම් හොඳ, යහපත් දෙයක් විය හැකි වුවත් ලෝකෝත්තර නිවන් සුවය සඳහා නම් උපකාර වන්නේ සතියෙන්ම ක්‍රියා කිරීමයි. හොඳ සිහිය යන්න බොහෝවිටම සතියෙන් නොව අසතියෙන්ම කරන්නක් විය හැකිය.

මේ අනුව සතර සතිපට්ඨාන භාවනාවෙහි ප්‍රායෝගිකවම යෙදෙන්නට නම් බුද්ධ දේශණාවෙහි පෙන්වා වදාළ ධම්මානුධම්ම පටිපදාවෙහි පිහිටා ක්‍රියාකරන්නට නම් බුද්ධ දේශණාවෙහි පෙන්වා වදාළ භාවනා කර්මස්ථාන ප්‍රායෝගිකවම භාවනා කරන්නෙකු වන්නට නම් නිවැරදිවම පටිච්චසමුප්පාද ධර්මය හා ද්වතාවය ධර්මය යන දේ යම් තරමකට හෝ අසා දැන තේරුම් ගත යුතුයි. අවබෝධ කරගත යුතුයි. සතර සතිපට්ඨාන භාවනාවක් කරන්නට අදහස් කරන යම් කෙනෙකුට මේ මූලික දැනුම පවා නොලැබුණ හොත් නිවන් මාර්ගය උපදවා පහදා ගැනීමද පහසු දෙයක් නොවෙනු ඇත. සේවිතබ්බා අසේවිතබ්බා සූත්‍රයෙහිත්, ආනාපානසති සූත්‍රයෙහිත්, ද්වේධා විතර්ක සූත්‍රයෙහිත්, මහා සතරසතිපට්ඨාන සූත්‍රයෙහිත්, ගිරිමානන්ද සූත්‍රයෙහිත් තවත් සූත්‍ර ධර්ම රාශියකමත් පෙන්වූ මූලිකම හරය වූයේ සේවනය කරන්නට සුදුසු ධර්මයන් පෙන්වා දීමත් සේවනයෙන් බැහැර කළයුතු කළු ධර්මයන් පෙන්වා දී ඒවා සේවනයෙන් බැහැර කරදමා, ප්‍රහාණය කරදමා, අස්කර දැමීමට මඟ කියාදීමත්ය. මේ සඳහා ප්‍රායෝගිකවම පුරුදු විය යුත්තේ මෙනෙහි කළයුතු දේ මෙනෙහි කිරීමටත් මෙනෙහි නොකළ යුතු දේ මෙනෙහි නොකර බැහැර කිරීමටත් පුරුදු වීමයි. පුහුණු වීමයි.

භාවිතා කළ යුතු වන්නේ සුදු ධර්මයන්ය. ප්‍රහාණය කර, භාවිතයෙන් බැහැර කළයුතු වන්නේ කළු ධර්මයන්ය. කළු ධර්ම යනුවෙන් බුද්ධ භාෂිතයෙහි හඳුන්වා දෙන්නේ චිත්තසංථානය කිළිටි කරන ලේ ධාතුව කිළිටි කරන පාපී ක්‍රියාවන්ට මුල්වන අපායගාමී ඵලවිපාක උරුමකර දෙන ක්‍රියාවන්ය. රාගය, ද්වේෂය, මෝහය යැයි ප්‍රධාන කොටස් තුනකටම බෙදා දක්වන්නේ මෙම කළු ධර්මයන්ය. සියලුම කළු ධර්මයන් විඤ්ඤාණයේ ආහාර වශයෙන්ද සංසාර ගමන දිගින් දිගටම පවත්වා ගෙන යන්නට උපකාර වන සමුදය ශක්තිය උපදවන දේ ලෙසද පෙන්වා දී ඇත. මතු උපතකට උපකාර වන විඤ්ඤාණ බීජ සකස් කිරීම සඳහා ද ඒවාම උපකාර වෙයි. විඤ්ඤාණයෙන් ක්‍රියාකරන පෘථග්ජන පුද්ගලයින්ට මෙම කළු ධර්මයන් බොහෝ අවස්ථාවල ප්‍රිය දේවල්, යහපත් දේවල්, හොඳ දේවල්, නිවැරදි දේවල් ලෙසද දකින්නට හැකි වෙයි. ඒ තම තමන්ගේම දෘෂ්ඨිය අපිරිසිදුතාවය අනුවම තීරණය වන්නකි. සම්මා දෘෂ්ඨියට පත්වූවෙකුට පමණක් නිවැරදිවම කළු ධර්ම කළු ධර්ම ලෙසින් දැකගත හැකි වෙයි. සම්මා දිට්ඨියට පත් නොවූ සංසාර දෘෂ්ඨියෙන් ක්‍රියාකරන හැම කෙනෙකුටම බොහෝමයක්ම කළු ධර්මයන්ද මනාප වූ දේ ලෙසින්ම දැක ගන්නට ලැබෙයි.

සුදු ධර්ම යනුවෙන් අදහස් කරන්නේ චිත්තසංථානය පිරිසිදු කරන ලෝභ, ද්වේෂ, මෝහ ගති සහමුළින්ම ඉවත්කර දමන්නට උපකාර වන ක්‍රියාකාරකම්ය. අතීතයේ කවදා හෝ තමාම හොඳය, යහපත්ය, නිවැරදි යනුවෙන් පුරුදු කරගත්, පුහුණු කරගත් රාග ගතිය, ද්වේෂ ගතිය, මෝහ ගතිය යන කිළිටි ගති දැන් තමන් තුළම මුල්බැස ගෙන පවතින බවත් මේ ගති තමන්ගේම අනර්ථය සඳහාම තම චිත්තසංථානයම කිළිටි වීම සඳහාම හේතුවන බවත් නිවැරදිවම දැක මේ ගති සහමුළින්ම ගළවා ඉවත්කර දමන්නට ක්‍රියාකිරීම සුදු ධර්ම භාවිතා කිරීමයි. ඒවාගේම රාගයෙන් ද්වේෂයෙන් මෝහයෙන් ක්‍රියාකර අලුතින් මේ ගති පුරුදු කර ගැනීම නිසා තව තවත් කුණු එකතු වී තම චිත්තසංථානයම කිළිටි වී, තම මනසද මුවහ වී, මෝහය මතුවන බවද දැක එවන් ක්‍රියාවලින් බැහැරවීම ද, ඒවා අත්හැරීම ද, සුදු ධර්මයන් භාවිතා කිරීමක් වන්නේය.

රාගයෙන් තොර, ද්වේෂයෙන් තොර, මෝහයෙන් තොර පිරිසිදු ක්‍රියා සිත් පැවැත්වීම විඤ්ඤාණයට එතරම් සුදුසු, ගැළපෙන ක්‍රියාකාරකම් නොවේ. ඊට හේතුව මෙවන් සුදු ධර්මයන් දිගටම පැවැත්වීමෙන් විඤ්ඤාණයට අවශ්‍ය ආහාරයන් නොලැබෙන හෙයිනි. සුදු ධර්මයන් නිරතුරුවම භාවිතා කරමින් කෙළෙස් දුරු කළ විට චිත්තසංථානය පිරිසිදු වී සම්මතය විදබලා පරම සත්‍යය දැකබලා ගන්නට හැකි ප්‍රඥාව නම් වූ බලවත් ශක්තියක්ද සිතේම උපදී. ප්‍රඥාව සිතක උපදින්නේම රාග, ද්වේෂ, මෝහ යන කෙළෙස් ගති සළාහැර කෙළෙස්වලින් තොරවූ නිදහස් වූ චිත්තසංථානයකමය.

සතර සතිපට්ඨාන භාවනාව භාවනා කිරීම භාවිතා කිරීම හැර නිවන් දැකීමට උපකාර වන වෙනත් කිසිම ප්‍රායෝගික ප්‍රතිපදාවක් නම් නැති බව ගෝතම බුදුපියාණන්ම ඉතාම පැහැදිළිවම පිරිසිදුවම සතර සතිපට්ඨාන සූත්‍ර දේශණාවෙහි ප්‍රකාශ කර ඇත. අප බෞද්ධයින් ලෙස බුද්ධානුස්සතිය, ධම්මානුස්සතිය, සංඝානුස්සතිය, මරණානුස්සතිය, අසුභානුස්සතිය, චාගානුස්සතිය, මෙත්තානුස්සතිය, කයාගතාසතිය, ආනාපානසතිය ආදී සියලුම "සති" භාවනා කරන්නේත් භාවිතා කරන්නේත් අවසාන හා ඒකායන පරමාර්ථය වූ

සතර සතිපට්ඨානයෙහි පිහිටා ක්‍රියා කරන්නට උපකාර කරගත යුතු උපකාර වන ප්‍රතිපදාවන් ඒවා මඟින්ද සම්පූර්ණ කරගන්නට හැකි නිසාමයි. ඒ කුමන ආකාරයක හෝ "සති" භාවනාවක් භාවිතා කරමින් ඒවා ප්‍රගුණ කිරීමේ ඒකායන බලාපොරොත්තුව සතර සතිපට්ඨානයෙහි පිහිටා ක්‍රියාකරන්නට පුරුදු පුහුණු වීමයි. සතර සතිපට්ඨානයෙහි පිහිටා ක්‍රියාකරන්නට උපකාර නොවන කිසිම භාවනාවක් නිවනට උපකාර වන බුද්ධ භාවනා ක්‍රමයක්ද නොවේ. සතර සතිපට්ඨානයෙහි පිහිටා ක්‍රියාකරන්නට උපකාර වන සියලු භාවනා, බුද්ධ භාවනාවන් වේ.

මේ අනුව නිවැරදි ලෙසම තේරුම් ගත යුත්තේ බුද්ධ දේශණාවෙන් පෙන්වා වදාළ සියලුම භාවනා ක්‍රම සියලුම කර්මස්ථාන උපකාර කරගත යුතු වන්නේ නොවැරදීම නිවන් මඟ සම්පූර්ණ කරගත හැකි සතර සතිපට්ඨාන භාවනාවම පුරුදු පුහුණු කර ගැනීමටයි. සතර සතිපට්ඨානය වැඩෙන්නේ නම් සතියේ පිහිටා ක්‍රියා කරන්නට උපකාර වන්නේ නම් කායානුපස්සනාව වැඩෙන්නේ නම් එය කුමන නමකින් හැඳින්වූවත් එය බුද්ධ භාවනාවකි. නිවනට නොවරදින මඟ උපදවා පහදවා දෙන්නකි. මොහොතින් මොහොතම පියවරෙන් පියවරම ක්‍රියාවේ වේගය සංසිඳීමේ යහපත් ප්‍රතිවිපාකයන් තමාටම අත්විඳ ගත හැකි නිවැරදි ප්‍රතිපත්ති මාර්ගයකි. නිවන යනු මේ ගින්න නිවීමයි. පැවැත්ම යනු ගින්න දිගටම පැවතීමයි.

## කායේකායානුපස්සනාව

"යදිදං චත්තාරෝ සතිපට්ඨානා" යන පදවලින් "කායේ කායානුපස්සී විහරති, වේදනා වේදනානුපස්සී විහරති, චිත්තේ චිත්තානුපස්සී විහරති, ධම්මේසු ධම්මානුපස්සී විහරති'' යනුවෙන් පෙන් වූ පියවරයන් හතර වෙන් වෙන් වශයෙන් දැනගත හැකි වෙන් කොට භාවනා කළ හැකි හෝ වෙන්ව භාවිතා කළ හැකි කරුණු හතරක් නොවෙයි. මේ හතරම එකම අරමුණකට බැඳුණු එකම කාරණයකට අදාළ වූ අවස්ථා හතරක්ම පමණි. සතර සතිපට්ඨානය භාවනා කරන්නට අදහස් කරන කෙනෙකු නම් පළමු කොටම මේ බව නිවැරදිම තේරුම් ගත යුතුයි. යම් කිසි ආරම්මණයකට පටිච්ච වීම නිසා තම සිතේම යම්කිසි වේගයක් උත්පාදනය වන ආකාරයත් ඒ වේගය සිත තුළදීම ක්‍රියාත්මක වී සකස් වන ආකාරයත් පෙන්වා දී ඒ වේගය ගින්නක් බවට ශක්තියක් බවට පත් නොවන්නට නම් වේගය නිවෙන යම් ප්‍රතිපත්තියක් අනුගමනය කළයුතු බවක් ප්‍රායෝගිකවම පෙන්වා දීම මෙහිදී පියවර හතරකින්ම විග්‍රහ වේ. හිතේම හටගත් සිත තුළම උත්පාදනය වූ ගින්නත්, ගින්න නිසා ක්‍රියාත්මක වූ චිත්ත ආවේගයනුත්, චිත්ත ආවේගය නිසා ලබන ප්‍රතිවිපාකත් පෙන්වා දී ඒ හතර අවස්ථාවන්හිදීම අවබෝධයෙන් යුතුව කටයුතු කිරීමෙන් හේතුඵල දෙකම දැන, දැක ක්‍රියා කිරීමෙන් වේගය සංසිඳවා, සිත සංසුන් කර චිත්තය සංයමයට පත්කර ගෙන සම්මා තත්ත්වයටම සිත පත්කර ගැනීමට මඟ පෙන්වා දීම සතර සතිපට්ඨානයෙහි යෙදී සතියෙහි පිහිටා ක්‍රියා කිරීමෙන් සිදුවේ. ඒ නිසා සතර සතිපට්ඨාන භාවනාව යනු වෙන් වෙන්ව කර ගත හැකි කරුණු හතරක් නොවේ.

අවිද්‍යාව නිසා, නොදන්නාකම නිසා, රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් ක්‍රියාත්මක වන පෘථග්ජන කෙනෙකුට සිතට අරමුණක් "පටිච්ච වූ " වහාම ඒ අනුව

ක්‍රියාකර අවිද්‍යා සංඛාරයක් ලෙස සිතේම ක්‍රියාත්මක වීමට පටන් ගනී. ප්‍රිය අරමුණක් නම් ඊට පටිච්ච වීම නිසා සමුදය ශක්තියක් බිහි වේ. අප්‍රිය අරමුණක් නම් එයට පටිච්චවීම නිසාත් සමුදය ශක්තියක් උත්පාද කරගනී. මෙතැනදී ක්‍රියාකාරකමක් සිදුවේ. මේ ක්‍රියාව වෙන් කර ක්‍රියාව නිසා උපදින වේගය දැක ගැනීමට නොහැකි නම් සතියෙන් ක්‍රියා කරන කෙනෙකු ලෙස හැඳින්විය නොහැකියි. අසතියෙන් ක්‍රියාකිරීම නිසා වේගයක් ශක්තියක් තම සිතේම උත්පාදනය කරගනී. සතියෙන් ක්‍රියාකරන කෙනෙකුට නම් අරමුණකට පටිච්චවීම නිසා තමාගේම සිතේම උත්පාදනය වන ශක්තිය, ගින්න, දාහය, වේගය දැකගන්නත් ඒවාගේම ක්‍රියාවේ වේගය නිසා තමා තුළම හටගත් ගින්නෙන්, යම් වින්දනයක්, වේදනාවක් උත්පාදනය වන බව දැකගන්නත් හැකියාව ලැබේ. ඒ වේදනාව නිසා චිත්තාවේගයක් සිතේ උත්පාදනය වන බවත් ඒ චිත්තාවේගය නිසා ක්‍රියාත්මක කරන සංඛාරයට අනුව සංඛතයක් බිහිවී කර්ම බීජයක්ද සකස් වෙන බවත් දැකගත හැකියි. මෙතැනදී ක්‍රියාවෙන් උත්පාදනය වන්නා වූ වේගය නිසා මත් ගතියක් මත් වීමක් සිතේ මතු වේ. රත් වීමත්, ගිනි ගැනීමත් නිසා සිතක මත් වීම සිදුවන්නේ රාගයෙන් මත්වීම හෝ ද්වේෂයෙන් මත්වීම හෝ මෝහයෙන් මත්වීම හෝ නිසයි මත් වූ මත් ගතියක් නිසාම ථීනමිද්ධ යන ගතියක් ද ඇති වේ. මේ නිසා ලේ ධාතුව කිළිටි වේ. එනම් ජීවිතේන්ද්‍රියත් කිළිටි වේ. කිළිටි වූ, මත් වූ, රත් වූ ලේ ධාතුව මොළය කරා ගමන් කළ විට ඒ කිළිටි ලේ නිසා මනසේ මුවහවීම නිසාත් කෙනෙකුට යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කිරීමටත් නොහැකි වේ. එසේ අමනසිකරණයෙන් ක්‍රියාකරන විට හොඳ නරක, හේතුඵල, සුව අසුව ආදියෙහි දෙපැත්තම බලා ක්‍රියා කරන්නට නොහැකි වේ. මනසිකරණ ශක්තියක් නැති වීම හේතුවෙන් මත් වී ක්‍රියාකරන පුද්ගලයෙකු බවටත් පත් වේ. මෙහිදී ක්‍රියාවන් හතරක් වෙන්කොට දක්විය නොහැක. එකම ක්‍රියාවක වේගය අනුව පියවරයන් හතරක්ම ක්‍රියාත්මක වීමක් පමණක් සිදුවේ.

තම ක්‍රියාවේ වේගය තමන්ම පාලනය කර ගැනීමටද පුරුදු පුහුණු විය යුතුයි. මේ පුරුද්ද පුහුණුව නිසි ආකාරයෙන් ක්‍රියාත්මක කිරීමට නම් හේතුඵල ධර්මය ක්‍රියාත්මක වන ආකාරය හා එහි ද්වතාවයත් තේරුම් ගත යුතුයි. ක්‍රියාවේ වේගය තමන්ටම පාලනය කරගන්නට හැකි බවත් ක්‍රියාවේ වේගය පාලනය කරගත් විට ක්‍රියාව නිසා උත්පාදනය වන මත්වීමේ ශක්තියද අනුත්පාද වීමෙන් සිත පාලනය කරගත හැකි බවත් උත්සාහයෙන්, වීර්යයෙන්, යථාවබෝධයෙන් ක්‍රියාවේ වේගය පාලනය කරගත හොත් ඒ අනුව වේදනාවක් ඇති නොවී වේදනාවේ වේගයද පාලනය කරගැනීමට තමන්ටම ශක්තිය ලැබෙන බවත් තේරුම් ගත හැකියි. වේදනාවේ වේගය පාලනය කරගත් විට තමන්ට තමාගේ චිත්තාවේගයන්ද පාලනය කරගත හැකි වේ. හිත සමථයට පත්වී හිතේ විසුරුණු ගතිය පහවී සිත ඒකාරම්මණයකම පිහිටා සිට ක්‍රියා කිරීමේ ශක්තිය හා පුහුණුවද දැන් ලැබේ. මේ අනුව රත් නොවූ මත් නොවූ ඒකාග්ගතාවයකට පත් වූ සිතින් ධම්මානුධම්ම පටිපදාවෙහි පිහිටා යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකර සෑම ක්‍රියාවක් පිළිබඳවම දැක ඉවසා, විමසා කටයුතු කිරීමේ පුරුද්දක් හා පුහුණුවක් ලැබේ. මේ අනුව හේතුඵල ධර්මයට බහා ගළපා බලා කටයුතු කරන්නටත් අනිච්ච, දුක්ඛ, අනත්ථ ත්‍රිලක්ඛණයට අනුව ක්‍රියාවේ වේගය සහමුලින්ම උදුරා ගළවා දමන්නටත් ප්‍රායෝගිකව පුරුද්දක් ද ලැබේ. මෙතැනදී ධර්මතාවයට අනුවම ක්‍රියාත්මක වීමත් සිදුවේ. ජීවිතය පවත්වන නමුත් ක්‍රියාවේ වේගයෙන් මත් වූ ගිනිගත් සිතකින් ක්‍රියා නොකරන තත්ත්වයටම සිත සංසුන් වේ.

මේ අනුව කායානුපස්සනාව, වේදනානුපස්සනාව, චිත්තානුපස්සනාව හා ධම්මානුපස්සනාව යනු කරුණු හතරක් නොවේ. හතරකට වෙන් කර භාවිත කිරීමේ හැකියාවද නොපවතී. වෙන්කර භාවිත කිරීම හෝ භාවනා කිරීමට හෝ හැකි පියවරයන්ද නොවේ. ක්‍රියාවේ වේගය තමාට දකගන්නට නොලැබුණොත් ක්‍රියාව නිසා උත්පාදනය වන වේගය පාලනය කරගන්නට හෝ යථාවබෝධයකුත් නැත්නම් හෝ කායේ කායානුපස්සනාව වැඩීමද කළ නොහැකියි. ශරීරය දෙස බලා සිට කය අනුව හොඳ සිහියක් පැවැත්වීම යන්න ප්‍රායෝගික ක්‍රියාමාර්ගයක්ද නොවේ. ඒනිසා එය නිවනට උපකාර වන භාවනාවකුත් නොවන්නේමය.

"සබ්බකාය පටිසංවේදී අස්සසිස්සාමීති සික්ඛති, පස්සසිස්සාමීති සික්ඛති" යන්නෙහි "සබ්බකාය" යනුවෙන් අදහස් කරන ලද්දේ සියලුම ක්‍රියාවන් පිළිබඳවයි. මෙහි සියලු ක්‍රියාවන් ලෙසින් ගැනෙන්නේ චක්ඛුකාය - ඇසෙන් කරන ක්‍රියාවන්, සෝත කාය - කනෙන් කරන ක්‍රියාවන්, ඝාණ කාය - නාසයෙන් කරන ක්‍රියාවන්, ජිව්හා කාය - කටින්, දිවෙන් කරන ක්‍රියාකාරකම්, පොට්ඨබ්බ කාය - කයෙන් කරන ක්‍රියාවන්, මනෝ කාය - මනසින් කරන ක්‍රියාවන් යන හයයි. ඇසෙන් ප්‍රිය රූපයක් දෙස බලා ඒ රූප සංඥාව ප්‍රිය යැයි තීරණය කර ඉන් උත්පාදනය වූ ශක්තියෙන් මත්වීම නිසා ඒ රූපයට ඇලුණොත් රූපයට තණ්හා වී, අල්ලා උපාදානය කර ගැනීමේ ක්‍රියාවක් කළොත් එතැනදී ක්‍රියාවේ වේගයක් උත්පාදනය වේ. වේදනාවක් උත්පාදනය වේ. චිත්තාවේගයක් උත්පාදනය වේ. රූපයට මත් වී රාගයෙන් රූපය උපාදානය කරගනී. ඇසෙන් දුටු රූපය අප්‍රිය නම් අමිහිරි නම් ඒ රූපය කෙරෙහි ද්වේෂයක් සිතේ මතු වේ. එතැනදී සිතේ දෙවැනි වේෂයක් උත්පාදනය වේ. ද්වේෂයෙනුත් සිත මත් වේ. සිතේ වේදනාවක් හට ගනී. මේ දෙවෙනි ආකාරයෙන් අප්‍රිය රූපයට මත්වීම වඩා බලවත් වූ වේදනාවකි. එයින් තමාගේම ලේ ධාතුව බලවත් සේම කිළිටි වී මනස වැසී මුවහ වී යයි. මේ ආකාරයටම සෝත කාය ශබ්ද රූපයටත්, ඝාණ කාය ගන්ධ රූපයටත්, ජිව්හා කාය රස රූපයටත්, පොට්ඨබ්බ කාය සුව පහසු බවටත්, මනෝ කාය ධම්ම රූපයටත් පටිච්ච වීමෙන් පටිසංවේදී බවක් සිතේ හට ගනී. මෙසේ පටිසංවේදී බවක් ඇතිවීම නිසා මත් වීමෙන් යමකට බැඳීම සිදු වේ. "පටි" යනු බැඳෙන බවයි. මත් වීමෙන් ක්‍රියා කිරීම සංවේදී බවයි. මෙවන් වූ ක්‍රියාවේ වේගය සංසිඳවා ගැනීමෙන් පටිසංවේදීබව පාලනය කර තම සිත හික්මවා ශික්ෂණයට පත් කර ගැනීමටත් හැකි වේ. මේ සඳහා "අස්ස" යනුවෙන් පෙන්වා දුන් ආශ්‍රය කළයුතු භාවිතා කළයුතු අලුත් වැඩපිළිවෙළ මනාව වටහා ගත යුතු වේ. එසේම ආශ්‍රයෙන් බැහැර කළ යුතු "පස්ස" යනුවෙන් පෙන්වා දුන් ප්‍රහාණය කළ යුතු වැඩපිළිවෙළ ද වටහා ගත යුතු වේ. මේ අනුව අස්ස පස්ස යන්න යථාවබෝධයෙන්ම භාවිතා කිරීමත් ප්‍රහාණය කිරීමත් කළ යුතුයි.

ක්‍රියාවේ වේගය සංසිඳවා ගැනීමට ආශ්‍රය කළයුතු හා භාවිත කළයුතු වැඩපිළිවෙළ අලුතින් අසා දන තේරුම් ගෙන ප්‍රායෝගික කර ගතයුතු වැඩපිළිවෙළයි. එය "අස්ස" යනුයි. ක්‍රියාවේ වේගයෙන් සිත මත්වෙන ගති ස්වභාවය සංසාරයේ මේතාක් කාලයක් පුරුදු පුහුණු කර ගෙන පැවති වැඩපිළිවෙළ "පස්ස" යනුවෙන් ඉවත් කළයුතු වැඩ පිළිවෙළයි. රාගයෙන් ඇලීමේත්, ද්වේෂයෙන් ගැටීමේත් සංසාර පුරුද්ද බැහැර කර දමා උපේක්ඛා සිතින් එය ඉවසා දරා විමසා ක්‍රියාවේ වේගය පාලනය කර සිත සංසිඳවා ගත

යුතුයි. මෙය කායේකායානුපස්සනාවේ පිහිටා ක්‍රියා කිරීමයි. බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ නිවැරදිම ආනාපානසතිය ද මෙයයි. "දීඝංවා අස්සසන්තෝ, රස්සංවා අස්සසන්තෝ - දීඝංවා පස්සසන්තෝ රස්සංවා පස්සසන්තෝ " යනුවෙන් දේශණා කළ පාඨයන්ගෙන්ද අස්ස හා පස්ස යන පද දෙකෙන් ද විග්‍රහ කර පෙන්වා වදාළේ ආශ්‍රය කළ යුතු දේ හා ආශ්‍රය නොකර බැහැර කළ යුතු දේ පිළිබඳවයි. ඉන්ද්‍රියයන් හයෙන්ම ආශ්‍රය කිරීමත් ආශ්‍රයෙන් බැහැර කර දැමීමත් කළ හැකියි. "දීඝංවා" යනු අතී දිර්ඝ සංසාරයේ පෘථග්ජන පුද්ගලයෙකු ලෙසින් තමා හුරු පුරුදු කරගෙන පවත්වා ගෙන ආ පුරුද්ද එනම් ප්‍රිය දේට ඇලීමත් අප්‍රිය දේට ගැටීමත් යන අන්තවාදී පුරුද්දයි. හැම ආකාරයේම දුක්වලට මුල් වන්නේද මෙම අවිද්‍යා මූලික පුරුදු පැවතීමයි. දීර්ඝ සංසාරයේ පුරුදු කරගෙන ආ මෙවන් ගති පුරුදු නිසා සිතේ හටගන්නා වේගය, වේදනාව, දුක, කිළිටිවීම දැක එහි යථා තත්ත්වය අවබෝධ කරගෙන එවන් පුරුදු මෙතෙක් දිගටම පවත්වාගෙන ආවත් ඒවායින් දුන් ඉවත් වී, නිදහස් වී, උපේක්ඛා සිතින්ම කටයුතු කරන්නට පුරුදු වීම අලුත් පුරුද්දයි.

"රස්සංවා අස්සසන්තෝ, රස්සංවා පස්සසන්තෝ" යැයි ප්‍රකාශ කළේත් අපි අද අලුතින් පුරුදු කරගන්නා ප්‍රිය දේට ඇලෙන පුරුද්ද හා අප්‍රිය දේට ගැටෙන පුරුද්ද පිළිබඳවයි. හැම ආකාරයේම දුක් දොම්නස්, වේදනාවලට මුල් වන්නේත් මෙවැනි අන්තවාදී ප්‍රිය අප්‍රිය ගති පුරුදු බවත් දැන ගෙන ඒවායින් ඉවත්වී උපේක්ඛා සිතින්ම ක්‍රියා කරන්නට පුරුදු වීම යන ද්වතාවය මෙහි අදහසයි. මෙහි අස්ස යනු ආශ්‍රය කළ යුතු අලුතින් පුරුදු විය යුතු දේයි. පස්ස යනු ප්‍රහාණය කර බැහැර කළ යුතු දේයි. මේ ආකාරයෙන් ක්‍රියාවේ වේගය බැහැර කරමින් අනුපස්සනා කරමින් සිත සංසිඳවීමද කළ හැකිවෙයි.

මේ අනුව "කායේකායානුපස්සනාව" යනුවෙන් මාගධී පදවලින් බුද්ධ දේශණාවේ අදහස් කරන ලද්දේ "කය" යන සිංහල භාෂාවේ පදයෙන් අදහස් කළ මේ ශරීර කූඩුව පිළිබඳව නම් නොවේ. කය හෝ ශරීර කූඩුව හෝ දෙස බලා සිට කොපමණ කාලයක් භාවනාවක යෙදී සිටියත් ලබාගත හැකි නිවනක් නිදහසක් නම් කාටවත්ම සිතාගත නොහැකියි. මෙහිදී ''කය'' යන පදය නොව "කාය" යන පදයම ධර්ම විග්‍රහයේදී භාවිත කර ඇත. "කාය" යනු ක්‍රියාකාරකම යන්නයි. ක්‍රියාකාරකම් හයක එකතු වීමෙන් මේ ශරීර කූඩුව "පණ ඇති" තත්ත්වයට පත් වී ඇත. සත්ත්වයෙකු, පුද්ගලයෙකු ලෙසින් ක්‍රියා කරනු දැකිය හැකි වන්නේ මෙම ක්‍රියාකාරකම් හයක් ක්‍රියාත්මක වන තුරු පමණි. ක්‍රියාකාරකමත්, එම ක්‍රියාකාරකම උපදින්නට (උප්පජ්ජති) මුල් වූ හේතුවත් ක්‍රියාකාරකමක් ක්‍රියාත්මක කිරීම නිසා උපදින ශක්තියත් (වේගය) යන හේතුඵල දෙකම දෙස විමසිල්ලෙන් බලා, ක්‍රියාවේ වේගය, මත්වීමේ ශක්තිය සංසිඳවා ගැනීම කායේකායානුපස්සනාවයි. ක්‍රියාව නිසා උපදින අයහපත් වේගය සංසිඳවා ගත හැකි නම් ඒ ක්‍රියාව නිසා තමාට හෝ බාහිර කිසිවෙකුටත් කිසිම හානියක් සිදුවන්නේද නැත. ක්‍රියාව නිසා ක්‍රියාකාරකම නිසා උපදින වේගය, ශක්තිය, මත්වීම විශ්ව ශක්තියක් උපදවන සියලුම දුකට හා සැපටද හේතුවන එකම ශක්ති ප්‍රභවයයි. ලෝකයක් බිහිවන්නේ මේ ශක්ති උත්පාදනය වීමෙනි. "කය" යනුවෙන් අදහස් කරන මේ ශරීර කූඩුව තුළ පංචස්කන්ධය තුළ ක්‍රියාත්මක ක්‍රියාකාරකම් හය වෙන්කර, ඉවත්කර ඒවා එකින් එක වෙන් කොට සළකා බලන්නට පුරුදු වන්නේ නම් මේ ශරීර කූඩුව තුළින් සත්ත්වයෙකු, පුද්ගලයෙකු යන සංකල්පයක් දැක ගන්නටද

නොහැකියි. මේ පංචස්කන්ධය මම, මගේ, මගේ ආත්මය යන පුද්ගල සංකල්පයක් ලෙසින් පෘථග්ජනයා දක ගන්නේ මේ ක්‍රියා හය ක්‍රියාත්මක වන තුරාවටම පමණි. මේ ක්‍රියාකාරකම් හය නැති විට මේ ශරීරය මල කඳකි. එසේ නම් ඒ පංචස්කන්ධයට ශරීර කුඩුවට ක්‍රියාත්මක ශක්තියක් වේගයක් ලබාදෙන්නේ මේ ක්‍රියාකාරකම් හයක් නිසාමය. මේ ක්‍රියාකාරකම් හයම නිසා හේතු ඵල පරම්පරාවක්ද බිහි වෙයි. හේතුව (ප්‍රිය හෝ අප්‍රිය පුරුද්දක් නිසා) පටිච්ච වීමයි. ඵලය "සං" ශක්තිය සමුදය ධර්මයන් බිහිවීමයි. මේ අනුව සත්ත්ව පුද්ගල සංකල්පය අතහැර ආත්ම, අනාත්ම සංකල්පයද අතහැර මේ "කය" පිළිබඳව ශරීර කුඩුව පිළිබඳව යථා තත්ත්වය නිවැරදි ආකාරයට දක ගන්නට හැකි වන්නේ මේ ක්‍රියාකාරකම් හය වෙන් වෙන් වශයෙන් වෙන්කොට බෙදා බලන්නට පුරුදු වීමෙන්ම පමණි. මෙය අනුපස්සනා කිරීමයි. කායානුපස්සනා කිරීමයි.

ගෞතම බුදුපියාණන් එදා කුරු රටදී දේශණා කර වදාළ මේ ගැඹුරු අර්ථ සහිත වූ මහා සතරසතිපට්ඨාන සූත්‍ර දේශණාවේදී කායේකායානුපස්සනාව භාවනා කිරීමට එය අවබෝධ කර ගැනීමට පහසු වීම සඳහාම එය වෙන් කොට දක ගන්නට උපකාර වන ලෙසින්ම "පබ්බ "දාහතරකින්ම කායානුපස්සනාව දේශණා කර විග්‍රහ කර වදාරා ඇත. මෙය ක්‍රමවේදයන් හයකි. "පබ්බ" යන පදය පසු කාලයක අටුවාචාරීන් යොදාගත් පදයකි. මෙහිදී "කායේකායානුපස්සනාව" තේරුම් ගැනීම සඳහාම පමණක් මේ ක්‍රියාකාරකම් හය වෙන් කොට දක ගන්නටත් ක්‍රියාකාරකම් හය වෙන්ව දක ගත් පසු මෙහි "සණ සඤ්ඤාවක් " හෝ සත්ත්ව පුද්ගල සංඥාවක් හෝ නැති බව තේරුම් ගන්නටත් මේ පබ්බ හයම උපකාර වෙයි. පෘථග්ජන පුද්ගලයෙකුට තමාගේ "කාය" පිළිබඳව සත්‍යාවබෝධයක් ලැබීම පහසු නොවන නිසාම මෙසේ පබ්බ හයකින්ම විවිධාකාරයෙන්ම විභංග කර බෙදා බලා තේරුම් ගන්නට පහසුවන සේ විස්තර වශයෙන්ම "කායේකායානුපස්සනාව" විග්‍රහ කර ඇති බවක් පෙනේ. රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් කරනු ලබන මෙහි පෙන්වා වදාළ කුමන හෝ ක්‍රියාකාරකමක් නිසාම හැම අවස්ථාවකදීම යම් ශක්ති ප්‍රභවයක් උත්පාදනය වෙයි. මේ ශක්තියෙන් පුද්ගලයා මත්වෙයි. මේ මත්වීම නිසා විඤ්ඤාණ ශක්තියක් උත්පාදනය වේ. විඤ්ඤාණ ශක්තිය උත්පාදනය වීම නිසා සංසාර රිය ගමනද දිගින් දිගටම පවත්වා ගෙන යන්නට අවශ්‍ය වන හේතුඵල පරම්පරාවක්ද ක්‍රියාත්මක වෙයි. හේතු කරන තාක් කල්ම ඵලද උරුම වෙයි. හේතු නොකරන විට ඵල උරුම වන්නේද නැත. ඒ අනුවම යහපත් හේතු කරන විට යහපත් ඵලයන්ම උරුම වෙයි. අයහපත් හේතු කරන විට අයහපත් ඵලයන්ම උරුම වෙයි. අවිද්‍යාව හා තණ්හාව නිසා කරනු ලබන සියලුම හේතු නිසා උරුම වන ඵල විපාක දුකට මුල්වන වේදනාවට මුල්වන සංසාරයේ අතරමං වන ආකාරයේ ඒවාය. එවැනි හේතු නොකළ යුතුයි. හේතු අත්හළ යුතුයි. (පස්ස)

මේ අනුව "කායේකායානුපස්සී විහරති" යනුවෙන් මහා සතර සතිපට්ඨාන සූත්‍රයේ හෝ වෙනත් සූත්‍ර දේශණාවකදී හෝ දේශණා කර පෙන්වා දී ඇත්තේ පුද්ගලයෙකු තමාගේ ඉන්ද්‍රියයන් හයෙන්ම කරන, කියන, හිතන යම් කිසි ක්‍රියාකාරකමක් නිසා තමා තුළම උත්පාදනය වන අනවශ්‍ය ශක්තිය මත්වීමේ ශක්තිය පාලනය කරගෙන සංවර වීමට ධර්මයට හා විනයට බහා ගළපා බලා ක්‍රියා කිරීමට පුරුදු වීමයි. පුහුණු වීමයි.

## කායේකායානුපස්සනාව - ආනාපාන පබ්බය

සතර සතිපට්ඨාන සූත්‍රයෙන් විග්‍රහ වන්නේ හේතුඵල පරම්පරාවක ක්‍රියාකාරීත්වයක් පිළිබඳවයි. මේ විග්‍රහය නිවැරදිවම තේරුම් ගත් සෑම පුද්ගලයෙකුම, සෑම මිනිසෙකුම තමන් පිළිබඳව "මම" පිළිබඳව මේ තාක් හිතාගෙන සිටි තේරුම් ගත් පුද්ගල සංකල්පය, සත්ත්ව සංකල්පය පිළිබඳව දැන් ඇත්ත ඇති සේ දැන ගනී. මෙතෙක් කලක් තමාම නුදුටු "මම" පිළිබඳව තමාටම යථාවබෝධයකුත් ලැබේ. තමන්ගේ දෛනික පැවැත්ම තැන්පත් ස්වභාවයකින් පවත්වාගෙන යෑම සඳහා අවශ්‍යතාවකුත් කැමැත්තකුත් දැන් ඉබේටම වාගේ ඇති වේ. තමන් ක්‍රියා කරන්නේ අසංවර ලෙසින් නම් තැන්පත් නොවූ නො ඉවසන ස්වරූපයකින් නම් තමන් තුළම ගින්නක් අවුළුවා ගන්නා බවත් තමන්ම පසක් කර ගනී.

1. රූපාදී යම් අරමුණක් සිතට ස්පර්ශ කර ගැනීම.
2. ඒ ස්පර්ශය වූ අරමුණ දිගේ සිතුවිලි පරම්පරාවක් බිහි කර ගැනීම.
3. ඇස, කන, මන ආදී ආයතන හයේමත් මේ ක්‍රියාකාරීත්වය සිදුවේ.
4. ක්‍රියාවක් සිදු කර එහි ඵලය උරුම කරගෙන එයම භුක්ති විඳී.

ඉහත පෙන් වූ ආකාරයට යම් බලාපොරොත්තුවක් ඇති වී යම්කිසි ක්‍රියාවක් කළ පසු ඒ ක්‍රියාව, ඵලය, විපාකය ගැන බලා දුක්වීම හෝ පසුතැවීම පෘථග්ජන පුද්ගලයෙකුගේ සාමාන්‍යම පුරුද්දයි. ක්‍රියාවක් කරන්නට පෙර ක්‍රියාත්මක වන්නට පෙර ඒ ක්‍රියාව හා ඊට උරුමවෙන ඵල විපාකයන් පිළිබඳවත් සිතා බැලීමට දැන් අලුතින් පුරුදු පුහුණු විය යුතුයි. "කායේකායානුපස්සනාව" යනුවෙන් අර්ථ ගැන්වූයේ මෙම ක්‍රියාවලියයි. "සෝ සතෝව අස්සසති පස්සසති" යනු මෙහිම දෙවන පියවරයි. හේතුවත් හේතුවට උරුම වන්නා වූ ඵලයත් යන දෙකම හොඳින් දැකගත් පුද්ගලයාට මේ අරමුණෙන් ඇතිවූ බලාපොරොත්තු ආශ්‍රය කළ යුත්තක්ද ආශ්‍රය නොකර බැහැර කර හිතෙන්ම ප්‍රහාණය කළ යුත්තක්ද යන්න නිගමනය කිරීමට දැන් හැකියාව ලැබේ. මෙය තවදුරටත් මෙනෙහි කළයුතු අරමුණක්ද, මෙනෙහි නොකරම සිත නිදහස් කරගත යුතුද යන්නත් නිගමනය කරගත යුතු වේ.

ශරීරය යනු ආයතන හයක ක්‍රියාකාරීත්වයකි. ශරීරයේ යම් තැනකින් කරනු ලබන ක්‍රියාවකින් උපදින ශක්තියේ වේගයේ ප්‍රමාණයට අනුව හදවතේ ලේ ධාතුවේ ඇති රූප කලාප නැත්නම් පරමාණු භ්‍රමණය වීමත් වේගවත් වීමත් සිදු වේ. කම්පනය වීමත් වේගවත් වේ. මේ භ්‍රමණය වීම කම්පනය වීම අභ්‍යන්තරයේ ගින්නක් බවටත් පත්වේ. ආශ්වාසය ප්‍රශ්වාසය දෙස බලා සිටීමෙන් මේ වේගය, ගින්න, කම්පනය සංසිඳවීම කළ නොහැක්කක් බව ඔබට දැන් වැටහෙනු ඇත. වේගයක් සිතේ උපද්දවන්නට මුල් වූ ක්‍රියාව දෙසම බලා ඒ ක්‍රියාව නිසා උපදින වේගය, ශක්තිය, ගින්න නොඋපදවන ආකාරයට ඉවසා, විමසා, උපේක්ඛා සිතින් කටයුතු කිරීම "සතෝව අස්සසති සතෝව පස්සසති" යන පදවලින් විග්‍රහ කර පෙන්වා ඇත. මේ අනුව හේතුවත් හේතුවෙන් උත්පාදනය වන්නා වූ ඵලයත් යන දෙකම තමා තුළින්ම පැහැදිළිව නිරවුල්ව දැක ගැනීම මෙතනදී අදහස් වේ. හේතුව ආශ්‍රය කළ යුතු මෙනෙහි කළ යුතු එකක් නම් මෙනෙහි කිරීමත් ආශ්‍රය නොකළ යුතු අතහැර නිදහස් විය යුතු එකක් නම් ප්‍රහාණය කිරීමත් මෙතැනදී කළ යුතු ක්‍රියාවයි.

ආන - පාන යනුවෙන් අර්ථ ගැන්වූයේ මෙයයි. මේ අනුව තේරුම් ගත යුතු වැදගත්ම දේ වන්නේ අද භාවනා මධ්‍යස්ථානවලදී සාමාන්‍යයෙන් උගන්වන ආශ්වාසය ප්‍රශ්වාසය නැත්නම් හුළං රැල්ල වදින තැනකට හිත පිහිටුවා සිටීම මගින් යමෙකු නොමග යැමට හොඳින්ම ඉඩ ඇති බවයි. මෙම ක්‍රමය මගින් සතියෙහි පිහිටා සතියෙන් යුතුව කළ යුතු දේ සහ නොකළ යුතුදේ කිරීමක් කිසිසේත්ම සිදු නොවේ. භාවිත කළ යුතු දේ (අස්සසති) සහ නොකළ යුතු (පස්සසති) යන දෙකමත් සිතින් ඉවත් කිරීම නිසා පුද්ගලයා අසඤ්ඤ ධ්‍යානයකට පත් වීමට පුරුදු වීම නිසා අසඤ්ඤ ධ්‍යානයකින් ගමන අතරමං වන බව කාටත්ම දැන් පැහැදිළිවම අවබෝධ විය යුතුයි.

"දීඝංවා අස්සසන්තෝ - රස්සංවා අස්සසන්තෝ
දීඝංවා පස්සසන්තෝ - රස්සංවා පස්සසන්තෝ"

ආදී වශයෙන් මෙතැනදී විග්‍රහ කර පෙන්වූ ක්‍රියාවත් නිවැරදිව තේරුම් ගත යුතුයි. "දීඝංවා'' යනු අති දීර්ඝ සංසාරයේදී තමන්ම පුරුදු පුහුණු කරගත් ගති පුරුදුයි. "රස්සංවා" යනු අලුතින් අද අද තමා පුරුදු පුහුණු කර ගන්නා අලුත් "ගති" පුරුදුයි.

දීර්ඝ සංසාරයේදී පුරුදු පුහුණු කරගත් ගතිගුණවලත් කොටස් දෙකක්ම ඇත. ඉන්ද්‍රියයන් හයෙන්ම ක්‍රියාත්මක කරන අරමුණුවලට ඇලීම්, බැඳීම්, ගැටීම් හා මුළාවීම්, දීර්ඝ සංසාරයේදී ප්‍රියයි යනුවෙන් තීරණය කර කටයුතු කිරීම නිසා අද වන තුරුම මෙතෙක් කාලයක් මේ දීර්ඝ සංසාර ගමන නොනවත්වාම මේ තාක්ම පවත්වා ගෙන ආ බව වටහා ගත යුතුයි. මේ පුරුද්ද, ගතිය දැන් වෙනස් කර ගත යුතුයි. ඒවාගේම දීර්ඝ සංසාර ගමනේදි අපි බොහෝ අවස්ථාවලදී සංසාර දුකෙන් මිදීම සඳහා උපකාර වන ආශ්‍රය කළයුතු වීතරාගී, වීතද්වේශී හා වීතමෝහී ගති පිළිබඳවත් අසා දැන ගත්තද ඒවා අතීතයේදී පුරුදු කිරීමක් හෝ ආශ්‍රය කිරීමක් හෝ නොකළෙමු. දැන් එවැනි දේ ආශ්‍රය කිරීමට පුරුදු වී ඒවා බහුලවම භාවිත කිරීමටත් පුරුදු විය යුතුයි.

ඒවාගේම අලුතින් අද අද අසා දැක තේරුම් ගන්නා නොයෙකුත් දේවල ආශ්‍රය කළයුතු හා ආශ්‍රය නොකළ යුතු කොටස් දෙකක්ම ඇත. මේ දෙකොටසම පිළිබඳවම "රස්සංවා" යන පදයෙන් විග්‍රහ කරන ලදී. දිර්ඝ සංසාර ගමනට මෙතෙක් උපකාර වූ ප්‍රිය දේට ඇලීමේත් අප්‍රිය දේට ගැටීමේත් මෝහයෙන් මුළා වී කටයුතු කිරීමේත් පුරුද්ද අත්හැර (පස්ස) හේතුඵල දහමට බහා ගළපා බලා ආශ්‍රය කළයුතු වන්නේ උපේක්ඛා සිතින් ඉවසා කටයුතු කිරීමයි. මේ නිවනට මඟ පහදා දෙන ප්‍රතිපදාවයි. (අස්ස)

"සබ්බ කාය පටිසංවේදී අස්සසිස්සාමීති සික්ඛති පස්සසිස්සාමීති සික්ඛති" යන්නෙහි "කාය" යනු ක්‍රියාකාරකම් හැඳින් වූ පදයයි. "සබ්බ කාය" යනුවෙන් මෙහි සටහන් කර පෙන්වූයේ චක්ඛු කාය, රූප කාය, සෝත කාය, සද්ධ කාය, ඝාන කාය, ගන්ධ කාය, ජිව්හා කාය, රස කාය, කාය කාය, පොට්ඨබ්බ කාය, මනෝ කාය, ධම්ම කාය යන ක්‍රියාකාරකම් යුගලයන් හය හා විඤ්ඤාණ කායයන් හයක් පිළිබඳවයි. යම්කිසි ක්‍රියාකාරකමක් කරමින් බාහිර ලෝකයේ හා අධ්‍යාත්මික ලෝකයේ පැවැත්ම දිගටම පවත්වා ගැනීමට යමක් එකතු කරගනී නම් එතැනදී අපි ඒ ක්‍රියාකාරකම "සංඛාර" යනුවෙන් හඳුන්වනු ලැබේ. මේ "සංඛාර" අවිද්‍යාමූල සංඛාර නම් ඒ සංඛාර

සියල්ලන්ගෙන්ම උත්පාද වන සියලු ශක්තීන් නිසා ආධ්‍යාත්මයේ මත්වීමත් විඤ්ඤාණ ශක්තිය උත්පාදනයත් සිදු වේ. ඒ ශක්තිය සංසාර ගමන දිගින් දිගටම පවත්වාගෙන යෑමට උපකාර කර ගනී. එම නිසා මේ ආකාර වූ අවිද්‍යා මූලයෙන් සංඛාර ක්‍රියාත්මක කිරීම පැවැත්වීම නවතා ඒවා ප්‍රහාණය කළ යුතුයි (පස්ස). කුසල මූල සංඛාර ක්‍රියාත්මක කරනවා නම් එතැනදී කරනු ලබන ක්‍රියාකාරකම් වලින් සිදුවන්නේ අතීතයේ එකතු කරගත් චිත්තසංථානයේ ගබඩා වී පවතින කෙළෙස් ගති ඉවත් කර අස් කර චිත්තසංථානය පිරිසිදු කර ගැනීමයි. එම නිසා කුසල මූල සංඛාර කර ඒවා ආශ්‍රය කර රාග, ද්වේෂ, මෝහ ගති සිතින්ම ප්‍රහාණය කළ යුතුයි. එය අස්ස යනුයි. මේ කුසල මූල සංඛාර ආශ්‍රය කිරීමයි. සබ්බ කාය යනු සියලු ක්‍රියාකාරකම් යන අදහසයි. දැන් අලුතින් ලැබූ ධර්ම අවබෝධයට අනුව සියලුම ක්‍රියාකාරකම්හි යෙදෙමින් කෙළෙස් ගති ශුද්ධ පවිත්‍ර කරන අතර අලුතින් කුණු කෙළෙස් එකතු කර නොගන්නා ක්‍රමවේදයකට දැන් හුරු පුරුදු වීමත් කළ යුතුවේ. පටිසංවේදී අස්ස, පටිසංවේදී පස්ස යනු මේ අලුත්ම ක්‍රමවේදයයි. මෙයට කලින් ධර්මාවබෝධයක් ලැබීමට පෙර කාලයේදී ක්‍රියාත්මක කරන ලද්දේ කෙළෙස් කුණු එකතු කරගන්නා කෙළෙස්ම භාවිතා කරමින් එකතු කරගත් කෙළෙස් ගබඩා කර ගනිමින් ඒවා වටිනවාය, සාරවත්ය යන නිගමනයට බැස ඒ අනුව ක්‍රියා කිරීමයි. දැන් ඊට හාත්පසින්ම වෙනස් වූ යථාභූත ඥාණ දර්ශනයක් ලැබූ නිසා කෙළෙස් යනු කුණු ගොඩක් පමණක්ම බව දැන් නිවැරදිවම දැක ගත් නිසා සම්මා දිට්ඨියටම පත් වූ නිසා දැන් කුණු ඉවත් කර සිත සංසිඳවාගෙන, කාය පස්සදියට හා චිත්ත පස්සදියට" පත් වීමෙන් ලබන ඉහාත්ම සුඛවිහරණයත් ලබා ගත හැකියි. මෙය නිරාමිස සුවයයි.

තමන්ම අදටත් විඳවන, අතීතයේත් විඳි සියලු දුක්වලට සියලු කරදර වලට එකම හේතුව තම ක්‍රියාකාරකම් නිසා උපදවාගන්නා අනවශ්‍ය මත්වීමේ රත්වීමේ ශක්තියයි. වෙනත් කිසිම බලවේගයක් මේ විශ්වය තුළ නැති බවත් දැන් දකී. මේ ක්‍රියාකාරකම් සියල්ලටම මුල් වූයේත් නිධාන හේතුව වූයේත් ප්‍රිය, අප්‍රිය යන අන්ත දෙකකට ගැතිවී ක්‍රියා කිරීමට පුරුදු වීමයි. ප්‍රිය දේ අල්ලා ගැනීමටත් අප්‍රිය දේ තල්ලු කර බැහැර කිරීමටත් මේ සියලුම ක්‍රියාකාරකම් කළ බව පැහැදිළි විය යුතුයි. උපේක්ඛා සිතින් මේ අන්ත දෙකම ඉවසා සියලු ක්‍රියාකාරකම් එකසේ ඉවසා දරාගත හැකිනම් කාය පස්සදි, වේදනා පස්සදි, චිත්ත පස්සදි තුනමත් සම්පූර්ණ කරගත හැකිවේ.

මෙතනදී මේ සත්‍යයන් යථා පරිදිම අවබෝධ කරගත් කෙනෙකුට පරමාර්ථ වශයෙන්ම ඇත්ත දැක ගන්නත් ලැබේ. ලෝකය යනු තමන්ම හදා ගත් එකක් බවත් මම විසින් ගොඩ නඟා ගත් මගේ ලෝකය විපරිණාමයට පත් වී, වෙනස් වී, කැඩී, බිඳී, ගෙවී විනාශ වී යන බවත් මනාව වැටහෙන්නට පටන් ගනී. ලෝකය යනු රාග, ද්වේෂ, මෝහ ගතිවලින් යුක්ත වන තත්ත්වයයි. ප්‍රිය බවෙන් ඇලෙන නිසා අප්‍රිය බවෙන් ගැටෙන නිසා, මානයෙන්, මෝහයෙන් මේ අන්ත දෙකටම පටළැවෙන නිසා මුංමුළා වෙන්නේ මම හදා ගත් ලෝකය තුළයි. මේ තත්ත්වය යථා පරිදි අවබෝධ කරගැනීමෙන්ම "සබ්බකාය පටිසංවේදී" තත්ත්වයෙන් මිදී "පටිනිස්සග්ග" යන අලුත් තත්ත්වයට පත් වීමෙන් "පටිච්ච" නොවී සමුදය නිරෝධ කරගන්නටත් හැකි වේ.

මම දුක් විඳින්නේ මගේ සිතේම පවතින මෙතෙක් පැවතුණු ගති තුනක් නිසාම

බවත් බාහිර ලෝකයක වරදක් නිසා නොවන බවත් දැන් යථාපරිදි තේරුම් ගැනීමට හැකි ශක්තිය දුක්ඛ අරිය සත්‍යාවබෝධය යනුවෙන් හඳුන්වනු ලැබේ. රාග, ද්වේෂ, මෝහ ගති තුනම පවතින්නේ තමන් තුළමයි. ප්‍රිය, අප්‍රිය අන්ත දෙකක් පවතින්නේත් මේ ගති පවතින නිසයි. තමන් ලෝකයක් හදාගෙන ලෝකයක ජීවත්වන්නෙත් මේ ගති නිසයි.

"පස්සම්භයං කායසංඛාරං අස්සසිස්සාමීති සික්ඛති
පස්සම්භයං කායසංඛාරං පස්සසිස්සාමීති සික්ඛති"

අපි යමක් හොඳයි, ප්‍රියයි, මධුරයි යනුවෙන් තීරණයක් ගන්නේ මේ හොඳ දේ දිගින් දිගටම ඒ රිසි වූ පරිදිම තම මනාපය පරිදිම දිගටම පවත්වාගෙන යෑමට ඇති වූ බලවත් කැමැත්තක් නිසයි. ඒවාගේම අප්‍රියයි, අමනාපයි යනු ඒ අප්‍රිය දේ අකමැති දේ දිගටම පවත්වාගෙන යෑමට ඇති වූ බලවත් අකමැත්තයි. එහෙම නම් යමක් හොඳයි යනුවෙන් අදහස් කරන්නේ ඒ දේ ඉදිරියටත් ඒ ආකාරයෙන්ම පැවතීම හොඳයි යන බලාපොරොත්තුවයි. මෙය තමන්ගේ හිතේම ඇති වූ පෞද්ගලික ප්‍රිය, අප්‍රිය බවක් නිසා මිස ලෝකයේ කාටත් පොදු වූ සර්ව සාධාරණ වූ නියත හේතුවක් මුල්කරගෙන ඇති වූ දෙයක් නොවන බව වටහා ගත යුතුයි.

හොඳයි යනුවෙන් තමන්ගේම සිතේ මතු වූ ප්‍රිය දේට ඇලෙන ගතිය නිසා තමන් ප්‍රිය කළ දේ දිගටම පවත්වා ගැනීමටත් අප්‍රිය දේ අත්හැරීමටත් දරණ උත්සාහය නිසා පුද්ගලයෙකු දුක් විඳී. මෙය තමන්ගේ සිතේ පවතින පුරුදු වී ක්‍රියාත්මක කරමින් පවතින ගතියක් බව තමන්ටම නොදැනීම නොතේරීම අඥාණකමයි. මේ නොදැනීම සියලුම ආකාර වූ භයට, වේදනාවට, කම්පනයට, චලනයට මුල් වේ. සියලුම ආකාරයේ සංඛාර සිත් කෙනෙකුගේ චිත්තසංථානයෙහි පහළවන්නේ තමන්ගේම සිත තුළ මෙවන් කෙළෙස් ආසව අනුසය මුල් බැස පවතින නිසයි. කෙළෙස් ක්‍රියාත්මක වන නිසයි.

ආශ්‍රය කළයුතු දේ සහ ආශ්‍රය නොකර බැහැර කළයුතු දේ යන කොටස් දෙක තුළට සියලුම ක්‍රියාකාරකම් බෙදා බලා, පරිහරණය කිරීමට සුදුසු දේ පරිහණය කිරීමට හුරු පුරුදු වුණොත් එතැනදී "පස්සම්භයං කායසංඛාරං" අස්ස පස්ස යන තත්ත්වයට පත් වේ.

මෙතැනදී "භමකාරෝ භමකාරන්තේවාසීවා" යනුවෙන් උදාහරණයක් මගින් ද විග්‍රහ කර පෙන්වා දී තිබේ. "භමකාර" යනු යකඩයක් රත් කරන කම්මල්කරුවෙකු පිළිබඳව පෙන්වා දී කරන ලද උපමාවකි. මේ උපමාවෙනුත් පෙන්වන්නේ යකඩය රත්වන්නේ මයිනහම අදින ප්‍රමාණය අනුවයි යන බවයි. මයිනහමෙන් පිටකරන හා ඇතුලු කරන හුළගේ බලයේ වේගය අනුව යකඩයක් රත්වේ යන්න අස්ස, පස්ස යන්නට යොදාගෙන ඇත. මේ ආකාරයට අපද දොරවල් හයකින්ම කරන, කියන, හිතන ක්‍රියාකාරකම් අනුව විඤ්ඤාණ ශක්තියත් උපදී. හිත රත් වන්නේත් මත් වන්නෙත් ඒ අනුවයි. හේතුඵල පරම්පරාවක් ක්‍රියාත්මක කරවමින් දිගටම සංසාර රිය ගමන ගමන් කරවන්නේත් මේ පිටතින් ඇතුළට එකතුකර ගන්නා ශක්තියේ ප්‍රමාණයටයි. මේ ශක්ති නිපදවන, ශක්ති ප්‍රභවය කරන හේතුවම පාලනය කරගන්නට තමන්ටම හැකි නම් මයිනහම අදින පුද්ගලයාට යකඩය රත්වීම පාලනය කර ගැනීමට හැකියාව ඇතිවා මෙන්

අපටත් අපේම හිත පාලනය කර ගැනීමටත් ශක්තියක් ඇති වේ.

"ඉති අජ්ඣත්තංවා කායේ කායානුපස්සී විහරති
බහිද්ධාවා කායේ කායානුපස්සී විහරති
අජ්ඣත්ත බහිද්ධා වා කායේ කායානු පස්සී විහරති"

මෙතැනදී ''අජ්ඣත්ත'' යනුවෙන් අර්ථ ගැන්වූයේ තමන් පිළිබඳවයි. ''බහිද්ධා'' යනු බාහිර ලෝකයා පිළිබඳවයි. තමන් කරන, කියන, හිතන යම් කිසි ක්‍රියාකාරකමක්, හේතුවක් නිසා තමන්ට උරුම වන ඵලය, විපාකය යහපත් එකක් නම් ඒ ක්‍රියාව කළ යුතුයි. බාහිර ලෝකයාට එයින් උරුම වන ඵලය, විපාකය යහපත් ආකාරයේ ඵලයක්, විපාකයක් නම් ඒ ක්‍රියාවත් ක්‍රියාත්මක කළ යුතුයි.

තමන් කරන, කියන, හිතන යම් කිසි ක්‍රියාකාරකමක් නිසා එහි ඵලය, විපාකය ලෙසින් උරුම වන දේ තමන්ට අහිතකර නම් අපායගාමීවන ඵලයක් විපාකයක් උරුම වන්නේ නම් එම ක්‍රියාකාරකම නොකළ යුතුයි. ඒ ක්‍රියාකාරකම නිසා බාහිර ලෝකයාට උරුම වන ඵලය, විපාකය අයහපත් නම් අපායගාමී ඵලයක් විපාකයක් නම් එම ක්‍රියාකාරකම ද නොකළ යුතුයි.

තමන්ටත් බාහිර ලෝකයාටත් යන දෙපාර්ශවයටම යහපතක් වන්නා වූ දෙපාර්ශවයේ ම නිවනට මඟ පාදන්නා වූ ක්‍රියාකාරකමක් නම් එය ක්‍රියාත්මක කළ යුතුයි. එවැනි දේ නිතර නිතර බහුලව කළ යුතුයි. තමන්ගේත්, අනුන්ගේත් නිවන් මඟට බාධාවන නිවන් මඟ අසුරා සිටින ක්‍රියාකාරකමක් නම් එවැනි ක්‍රියාකාරකමක් නොකර සිටිය යුතුයි. කායානුපස්සනාව ආධ්‍යාත්මික වශයෙන් තමන්ටත් බාහිර වශයෙන් බාහිර ලෝකයාටත් යන දෙපාර්ශවයටම යහපතක් වන නිවනක් වන එකක්ම විය යුතුයි. මෙතැනදී තවත් අර්ථ විග්‍රහයක් පෙන්වා දිය හැකියි. තමන් විසින් කරන, කියන, හිතන යම් ක්‍රියාකාරකමකින් ආධ්‍යාත්මය (සිත) කිළිටි වේ නම් ඒ ක්‍රියාකාරකම නිසා තම සිත කිළිටි වේ නම් සිතේ කෙළෙස් උපදී නම් ඒ ක්‍රියාකාරකම නිසා බාහිර පුද්ගලයෙකුගේත් සිත කිලිටි වේ නම්, බාහිර පුද්ගලයෙකුගේ සිතේ රාගය, ද්වේෂය, මෝහය උත්පාදනය වේ නම්, ඒ ක්‍රියාව, කථාව, සිතුවිල්ල වහාම අතහැර දමා සිතින් අස්කර සිත නිදහස් කර ගත යුතුයි.

යම් කිසි ක්‍රියාකාරකමක්, සිතුවිල්ලක් තමා විසින් ක්‍රියාත්මක කිරීම නිසා එහි ඵල විපාකය ලෙසින් තම සිත, ආධ්‍යාත්මය පිරිසිදු වේ නම් කෙළෙස් ප්‍රහාණය වේ නම් එසේම බාහිර පුද්ගලයෙකුගේ චිත්තසංථානයේ පවතින කෙළෙස් රාග, ද්වේෂ, මෝහ ගති ඉවත්කර ගැනීමට හැකියාව ලැබේ නම් ඒ පුද්ගලයාටත් මේ ගති වලින් නිදහස් වී ඔහුගේ චිත්තසංථානය පිරිසිදු කරගැනීමට එම ක්‍රියාව, කථාව, සිතුවිල්ල උපකාර වේ නම් එම සිතුවිල්ල දිගටම පැවැත්වීමෙන් සිත පිරිසිදු කරගත යුතුයි.

ඒ අනුව මේ සූත්‍රයේදී ප්‍රකාශ කළ පරිදි "අස්ස, පස්ස" යන අවස්ථා දෙකේදීම සිත පිරිසිදු කර ගැනීමට හැකියාව ලැබේ. ආධ්‍යාත්මය පාරිශුද්ධ වේ. තමන්ගේ සිතත් පිරිසිදු වේ. බාහිර පුද්ගලයෙකුගේ සිතත් පිරිසිදු වේ. හිතට වහල් වී හැඟීමට වහල් වී යමෙක් ක්‍රියා

කරන්නේ විඤ්ඤාණයට ආහාර සොයා දීමේ අරමුණෙනි. විඤ්ඤාණයේ වැඩකාරයෙකු ලෙසින්ම ඒ අරමුණ ක්‍රියාත්මක කරනු ලැබේ. නමුත් හිතට වහල් නොවී හැඟීමට වහල් නොවී ප්‍රිය බවට නොඇලී අප්‍රිය බවට නොගැටී මුළා නොවී කටයුතු කිරීමට නම් තම සිතුවිලිවල පාලනයක් ඇති කරගත යුතුයි. හේතුඵල ධර්මතාවයට බහා ගළපා බලා තමන් ක්‍රියාත්මක වීමට නිතරම පුරුදු විය යුතුයි. සතර සතිපට්ඨානයෙහි පිහිටා ක්‍රියාකිරීම යනු මෙවන් අලුත් පුරුද්දක් ඇති කර ගැනීමයි. පුරුද්ද දිගටම පුහුණු කර ගැනීමයි. සිත ඒ සඳහාම පදම් කර ගැනීමයි.

"සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති
වයධම්මානුපස්සී වා කායස්මිං විහරති
සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති"

ජීවිත පැවැත්ම දිගින් දිගටම සසර පුරාම පවත්වාගෙන යෑමට නම් යම්කිසි ශක්තියක් උත්පාදනය කරගැනීම අවශ්‍යම වේ. මේ ශක්තිය සමුදය ශක්තිය ලෙස ධර්ම විග්‍රහයේදී පෙන්වා දී ඇත. සමුදය ශක්තියේ කොටස් දෙකක්ම විග්‍රහ වේ. මේ උපන් ජීවිතය, මරණය තෙක් පවත්වා ගෙන යෑමට අවශ්‍ය ශක්තිය උත්පාදනය කර නිපදවීම පළමු වැන්නයි. මේ පවතින ජීවිතයෙන් පසුවත් මතු යළි යළිත් උපතක් ලැබීමට අවශ්‍යවන උපකාරවන විඤ්ඤාණ බීජ සකස් කිරීම දෙවැනි ආකාර ශක්තියයි. විඤ්ඤාණ බීජ නිපදවන පංචස්කන්ධයම උපාදානය කරගන්නට උපකාරවන, සංඛාර සිත් පැවැත්වීම යන දෙවන ක්‍රියාව වෙන්කර දැක ගැනීම අත්‍යාවශ්‍ය වේ. නිවන් අවබෝධ කර ගැනීම යනු මේ දෙවැනි ආකාරයේ සංඛාර කරමින් ශක්තියක් ප්‍රභවය කරගන්නා ආකාරය පැහැදිළිවම දැක ඊට මුල්වන ඊට නිදාන වන හේතුවම නිරෝධ කර ඒ ශක්තියම අනුත්පාද කිරීමයි. පංචස්කන්ධය පරිහරණය කිරීම පංචස්කන්ධය භාවිත කිරීම සේම ඉන්ද්‍රියයන් හයම භාවිත කරමින් ක්‍රියා සිත් පැවැත්වීමත් මේ උපන් ජීවිතය මරණය දක්වාම පවත්වාගෙන යෑමට අවශ්‍යයෙන්ම උපකාර වන නිසා අරහත් තත්ත්වයට පත් වූ නිවන් දුටු අරහතුන්වහන්සේත් ක්‍රියා සිත් පැවැත්විය යුතුයි.

සංඛාර සිතක් පවත්වනවාත් සමඟම සමුදය ශක්තියක්ද උත්පාදනය වේ. ශක්තිය බිහිවූ මොහොතේ පටන්ම ඒ උත්පාදනය කරගත් සමුදය ශක්තියත් වැය කර ගෙවා දමා හේතු ඵල පරම්පරාවක් ක්‍රියාත්මක කරමින් සංසාර ගමන පවත්වාගෙන යයි. අවිද්‍යා මූලයෙන් උපදින සංඛාර සිත් පැවැත්වීම නිරෝධ කර නවතා දැමීමත් සමඟම සමුදය ශක්තියක් බිහි නොවේ. සමුදය ශක්තියක් උත්පාදනය නොවන විට රාගයෙන් මත් වී ඇලීමක් ඇති නොවේ. ද්වේෂයෙන් මත් වීමෙන්ද ගැටීමක් ඇති නොවේ. මෝහයෙන් මත් වී මුළාවෙන් පටිච්ච නොවේ. මත් නොවූ සිතකින් රත් නොවූ සිතකින් අනවශ්‍ය වේගයක්, ශක්තියක් අලුතින් බිහිනොවන නිසා ක්‍රියාවේ වේගය දැන් සංසිඳුණු බවත් තේරුම් ගනී. මේ ක්‍රියාවලියට අපි සමුදය නිරෝධ කිරීම යනුවෙන් හඳුන්වමු. "ඒවංපි භික්ඛවේ කායේ කායානුපස්සී විහරති" යනුවෙන් ඉතාම පැහැදිළිව දේශණා කර වදාළේ එවන් වූ භික්ඛුවක් භව බයකර දමන්නට බිහි කිරීමේ ශක්ති මූලය උදුරා දමන්නට ක්‍රියා කරන බව පෙන්වා දීමටයි.

ප්‍රිය, අප්‍රිය යන අන්ත දෙකටම මෝහයෙන් මුළාවෙන් පටිච්ච නොවන අරහතුන් වහන්සේට පෙර කරන ලද ඉතිරි අතීත කර්ම කොටසක් ඵල දුන්නත් ඒවායෙන් මතුවන විපාකයන් උරුම කර නොගනී. උපේක්ඛා සිතින් ඒ සියල්ලමත් බැහැර කරන නිසා පටිච්ච නොවූ තත්ත්වයක් යටතේ "අනුත්පාදෝ නිබ්බානං" යන්න අරහතුන්වහන්සේගේ තත්ත්වය ලෙස විග්‍රහ කළ හැක. පටිච්ච වීමක් සිදු වුවහොත් පමණක්ම ''සං'' උත්පාද වේ. සමුදය ධර්මයක් බිහි වේ. "නපටිච්ච" නම් සං උත්පාද නොවන නිසා අනුත්පාදෝ තත්ත්වය පවතී.

"සං උත්පාද වීමයි දුකට හේතුව - අනුප්පාදෝ සුඛං
සං උත්පාද වීමයි භයට හේතුව - අනුප්පාදෝ ඛේමං (සහනයයි)
සං උත්පාද වීමයි ආමිසයට හේතුව - අනුප්පාදෝ නිරාමිසං
සං උත්පාද වීමයි සංඛාර කිරීමට හේතුව - අනුප්පාදෝ නිබ්බානං

මේ ආකාරයට හේතුඵල දහමට බහා ගළපා බලා කටයුතු කිරීමට යම් කෙනෙකු පුරුදු පුහුණු වුවහොත් සමුදය නිරෝධ කිරීමට පුරුදු පුහුණු වුවහොත් ඔහු සතර සති පට්ඨානයෙහිම පිහිටා ක්‍රියා කරන්නෙකු බවටත් අරිය මාර්ගය අනුගමනය කරන අරිය උත්තමයෙකු බවටත් පත්වේ. අෂ්ටාංගික මාර්ගය සම්පූර්ණ කරගන්නා පුද්ගලයා අරිය මාර්ගයේ ගමන් කරන්නෙකු බවටම පත් වේ.

## ඉරියාපථ පබ්බය හා සම්පජඤ්ඤ පබ්බය

ආනාපාන සතියෙහි පිහිටා එකඟ කරගත් සිතින් යුතුව එක ඉරියව්වකින්ම හේතුඵල දහමට බහා ගළපා බලා කටයුතු කරමින් හිත ශික්ෂණයට පත් කර ගත් ඉන්ද්‍රියයන් සංවර කරගත් අරිය මාර්ගයේ ගමන් කරන පුද්ගලයාට දූන් සියලුම ඉරියව් වලදීත් මේ ආකාරයටම හේතුඵල ධර්මය දන හේතුව හා ඵලය යන දෙකම දැක තේරුම් ගෙන ආශ්‍රය කළයුතු දේ හා බැහැර කළයුතු දේ වෙන්කර ගැනීමේ පුරුද්දක්, පුහුණුවක් අලුතින් ඇති කර ගත හැකි වේ. මේ අනුව ඇවිදිමින්, ඉඳගෙන සිටින අතරෙදීත්, සැතපී හාන්සිවී සිටින වේලාවේදීත්, හිටගෙන සිටින අවස්ථාවේදීත් යන හතර ඉරියව්වේදීමත් මේ අවබෝධය සම්පූර්ණ කර ගැනීමට හිත පුහුණුකර ගෙන පුරුදු කරගෙන සතියෙහි පිහිටා කටයුතු කිරීමට හා ක්‍රියා කිරීමට හැකියාව ලැබේ.

"ගච්ඡන්නෝ වා ගච්ඡාමීති පජානාති"

"පජානාති" යන තේරුම සිතේ ජනිත වන, උත්පාදනය වන සිතුවිල්ල සංඛාර සිතක්ද ක්‍රියා සිතක්ද යන්න යථාපරිදි තේරුම් ගැනීමට ඇති දැනුමයි. පය බිම තබා ඇවිදින අවස්ථාවේදීත්, හිතට ඇතිවන සිතේ උත්පාදනය වන අරමුණු භාවිත කළ යුතු යහපත් එකක්ද, ප්‍රහාණය කළ යුතු අයහපත් එකක්ද යන්න නිවැරදිවම දැක තීරණය කිරීමේ ශක්තිය හැකියාව හා පළපුරුද්ද මෙතැනදී විග්‍රහ කර පෙන්වා දී ඇත. අද බොහෝමයක් භාවනා මධ්‍යස්ථානවල "ගච්ඡන්නෝවා" යන පදය පදපරම අර්ථයෙන්ම "පය ගන්නවා, උස්සනවා, පද්දනවා, ගෙනියනවා, තියනවා'' යනුවෙන් කායික වූත්, භෞතික වූත්

ක්‍රියාවලියකුත් උගන්වනු පෙනේ. මෙවැනි ක්‍රමයන් අරිය ක්‍රමය නොවන බව ධර්මාවබෝධය ලැබීමත් සමගම යථාපරිදි බොහෝමයක් දෙනා තේරුම් ගනීවි. මෙවැනි දේ අනුගමනය කිරීම මගින් රාග, ද්වේෂ, මෝහ ගති බැහැර කර හිත නිදහස් කර ගත හැකිද, එසේත් නැතිනම් නොහැකිද යන්නත් සිතා බැලිය යුතු වේ. හිත නිදහස් කර ගැනීමට, හිත පිරිසිදු කර ගැනීමට නම් හිතේ මතුවන අරමුණු ගැන අවධානයෙන් පසු වී හේතුඵල දහමට බහා ගළපා බලා හේතුව අයහපත් නම් හේතුව ප්‍රහාණය කරන්නට පුරුදු පුහුණු විය යුතුමයි.

> "ඨිතෝ වා ඨිතෝම්හීති පජානාති
> නිසින්නෝ වා නිසින්නෝම්හිති පජානාති
> සයානෝ වා සයානෝම්හිති පජානාති
> යථා යථා වා පනස්ස කායෝ පණිහිතෝ
> තථා තථා නං පජානාති"

"ඨිතෝ" යනු එකතැනක හිටගෙන සිටීමයි. "නිසින්නෝවා'' යනු එක තැනක ඉඳගෙන සිටීමයි. ''සයානෝවා'' සයනයක හාන්සි වී සිටීම, සැතපීමයි. මේ කුමන ඉරියව්වකින් හෝ කාලය ගත කළත් තමන්ගේ හිත පුරුදු පුහුණු කරගත් පුද්ගලයාට මේ සතර ඉරියව්වේදීමත් හේතුඵල දහමට බහා ගළපා බලා සතියෙන් යුතුව සතියෙහි පිහිටා කටයුතු කිරීමට නිවැරදීම පුරුද්දක් තිබේ නම් එය සතර සතිපට්ඨාන භාවනාවේ ඉරියාපථ පබ්බය යනුවෙන් විග්‍රහ කර පෙන්වූ ක්‍රියාවලියයි. මේ ඉරියව් හතරෙදීමත්, නාසයෙන් හුස්ම ගැනීම, පහළට හෙළීම බැලීමක් පිළිබඳ විස්තර කර නොමැත. මෙතැනදී අර්ථ දක්වූයේ ඇස, කන, නාසය, දිව, කය, මනස යන දොරවල් හයෙන්ම චිත්තසංථානයට ඇතුලුවන ආරම්මණයන් සියල්ලම කෙරෙහි අවධානයෙන් පසුවී ඒ ආරම්මණයන් ක්‍රියාත්මක වුවහොත් තමන්ගේ හෝ බාහිර පුද්ගලයෙකුගේ හෝ සිත කිළිටි වේ නම් එවැනි ආරම්මණයන් බැහැර කර සිත නිදහස් කරගැනීමටත් මෙවැනි ආරම්මණයක් ක්‍රියාත්මක වීමෙන් තම චිත්තසංථානයේ හෝ බාහිර පුද්ගලයෙකුගේ සිත හෝ පිරිසිදු කරගත හැකි වේ නම් එවැනි අරමුණු ක්‍රියාත්මක කළ යුතුයි යන තීරණයත් ක්‍රියාත්මක කිරීමටයි.

පෘථග්ජන පුද්ගලයෙකු ඉරියාපථ හතරේදීමත්, සියලුම ඉරියව්වලදීත් අසතියෙන්, අනවබෝධයෙන් කටයුතු කරයි නම් ඒ පුද්ගලයා අතින් පව්කම් සිදු වේ. පව්කම් කරනවා යනු ඇලීමක් ගැටීමක් හෝ මුළාවක් නිසා කරන වැරදි ක්‍රියාකාරකම්වලට සම්බන්ධ වීමයි. හැම පෘථග්ජන පුද්ගලයෙකුම ඔහුගේ අවබෝධයේ ප්‍රමාණයට අනුව, දැකීම අනුව ඔහුම හුරු පුරුදු කරගත් ජීවිත රටාවකට කොටු වී කටයුතු කරති. ඒ ජීවිත රටාවට ගැළපෙන කතාවක්, ක්‍රියාවක්, සිතිවිල්ලක් නම් ඔහුට එය සැපයකි. ප්‍රිය දෙයකි. ඒ ජීවිත රටාවෙන් පිට පනිනවා නම් එයම දුකකි. අප්‍රිය දෙයකි. නමුත් පෘථග්ජන පුද්ගලයා නිරන්තරයෙන්ම කටයුතු කරන්නේත් මැදි වී ඉන්නේත් බාහිර ලෝකයත් සමග බව ඔහුටම සිතාගත නොහැකියි. අභ්‍යන්තර ලෝකය බාහිර ලෝකය ලෙස ලෝක දෙකක් තමන් හදාගෙන නොතිබිණි නම් අභ්‍යන්තර ලෝකයට හැම අතින්ම ගැළපෙන ආකාරයේ බාහිර ලෝකයක්ද හැම විටම පවතිනවා නම් එය සදාකාලික සැපතකි. එසේම අපට බාහිර

ලෝකය වෙනස් කළ නොහැකි බවත් තේරුම් ගත යුතුයි. නමුත් අභ්‍යන්තරව තමන්ම හදාගත් තමාගේම ලෝකය නම් වෙනස් කර ගැනීමටත් සුසඤ්ඤත තත්ත්වයට පත්කර ගැනීමටත් හැකියි. අභ්‍යන්තර ලෝකය හා බාහිර ලෝකය අතර බැඳීමක් ඇති නිසාම පෘථග්ජන කෙනෙකුට මේ සියලු රිදීම් සියලු වේදනා දුක් උරුම විය. හැම පෘථග්ජන පුද්ගලයෙකුම අවිද්‍යාව නිසා ඇත්ත ඇති සැටි නොදන්නාකම නිසා උත්සාහ ගන්නේම බාහිර ලෝකය වෙනස් කිරීමටයි. තමන්ට ගැළපෙන, තමන්ට සුදුසු තමන්ගේ මනාපයට සුදුසු පරිදි වූ බාහිර ලෝකයක් නිර්මාණය කිරීමට දරණ හැම උත්සාහයකදීම තව තවත් දුක්, දොම්නස්, උපායාස, පරිදේව තමන්ටම උරුම වන බව, හිමිවන බව නොදන්නා නිසා බාහිර ලෝකය සෑදීමටම උත්සාහ ගනී. මේ අවිද්‍යාව, නොදැනීම දුකට මුල් වේ.

"කායේ කායානුපස්සනාව" මගින් විග්‍රහ කර පෙන්වා දුන් "පබ්බ" හයේදීමත් "අජ්ඣත්තංවා කායේකායානුපස්සී විහරති, බහිද්ධාවා කායේකායානුපස්සී විහරති" පිළිබඳව විශේෂයෙන්ම හැම තැනකදීමත් පෙන්වා වදාළේ මේ අධ්‍යාත්මික හා බාහිර යන ලෝක දෙකක් අතර පවතින බැඳීම, සම්බන්ධය විග්‍රහ කර පෙන්වා පැහැදිළි කර දීම සඳහායි. මේ ආකාරයට ද්වතාවක් පවතින තුරු සිතින්ම ඇති කරගන්නා හැම බැඳීමක්ම, සම්බන්ධයක්ම දුකට මුල් වේ. මේ බැඳීම පිළිබඳව යථා තත්ත්වය, සත්‍යය තත්ත්වය අරිය සත්‍යය තේරුම් ගැනීම චතු අරිය සත්‍යයන් අවබෝධ කර ගැනීමයි. මේ බැඳීම, අධ්‍යාත්මික වූ කැමැත්තක්, රුචියක් නිසාම සිදුවන්නකි. මේ බැඳීම "පටිච්චවීම" යි. මේ බැඳීම නිසා සම්බන්ධයක් උපත ලබයි. මේ සම්බන්ධතාවයට මුල් වූ ක්‍රියාවලිය පටිච්ච සමුප්පාද ක්‍රියාවලියයි. හේතුඵල ක්‍රියාදාමයක් යනුවෙන් සිංහල බසින් හඳුන්වන්නේත් මෙයමයි.

අභ්‍යන්තර, බාහිර වශයෙන් වෙන්කර, මේ බැඳීම්වලට හේතුවත්, හේතුව නිසා උපදින ඵලයත්, සම්බන්ධයත් වෙන් කොට දැකගත හැකි වන්නේ ඉරියාපත පබ්බය නිවැරදිවම අවබෝධ කර ගැනීමෙනුයි. ''සමුදය ධම්මානුපස්සීවා වය ධම්මානුපස්සීවා'' යන පද යුගලයෙන් මෙය තවත් පැහැදිළි වේ. "සං උදය" නොවුණොත්, සම්බන්ධයක් සිදු නොවුණොත්, වැය වීමට හෝ ගෙවී යාමට හෝ කිසිවක් නොවේ. එහෙම නැත්නම් සියලුම සමුදය ධර්මයන් යම් ශක්තියකින් හිතින්ම හදාගත් බිහිකරගත් දේ නිසා නියාම ධර්ම ක්‍රියාත්මක වීමත් සමඟ, ඒ සියලු බැඳීම් සම්බන්ධතා වැය වී, ගෙවී වෙනස් තත්ත්වයන්ටත් පත් වේ. එසේ නම් හිතින්ම හදා ගත්, හිතේම මතු වූ "පටිච්ච" වීම මේ සියල්ලන්ටම මුල් වූ හේතුව වේ. සමුදය වීම (සං උපත) නැවැත්වීමට හැකි එකම ක්‍රමවේදය "පටිච්ච" නොවී, සිත උපේක්ඛා තත්ත්වයෙන් පවත්වාගෙන යාමට පුරුදු වීම, පුහුණු වීමයි.

මේ අනුව "සං" උපදින ආකාරය සමුදය හා ''සං'' ක්‍රියාත්මක වන ආකාරය සම්බන්ධය දැන ගැනීමට නම් සංදේශණාවක් අසාම කරුණු කාරණා තේරුම් ගත යුතුයි. සතර සතිපට්ඨානයේම පිහිටා ක්‍රියා කිරීමට නිවැරදි අවබෝධයක් ලබා ගැනීමට නම් "සංදිට්ඨිකෝ" තත්ත්වයට පත් වී සම්මා දිට්ඨියටත් පත් විය යුතුමයි.

## සම්පජඤ්ඤ පබ්බය

"පුන ච පරං භික්ඛවේ භික්ඛු අභික්කන්තේ
පටික්කන්තේ සම්පජානකාරී හෝති"

මෙතැනදී අලුත් වචනයක්, පදයක් භාවිත කර ඇත. මේ පදය "සම්පජානකාරී හෝති" යන්නයි. මීට පෙර විග්‍රහ කර පෙන්වා දුන් ආනාපාන පබ්බයෙහිත්, ඉරියාපථ පබ්බයෙහිත් භාවිත කළේ "පජානාති" යන පදයයි. මෙතැනදී ඒ වෙනුවට සම්පජානකාරී යන පදය භාවිත කර ඇත. මේ නිසා සතර සතිපට්ඨාන භාවනාව පිළිබඳව යථාවබෝධයක් ලබා ගැනීමට නම් මේ පදවල අර්ථයන් නිවැරදිවම තේරුම් ගැනීමක් අවශ්‍ය වේ.

ජානාති, පජානාති, සම්පජානකාරී හෝති යනු දැනුම පිරිසිදු කිරීම පිළිබඳ ලබාගත හැකි අවස්ථා තුනකි. ''ජානාති'' යනු දැනීමයි. එය විඤ්ඤාණයෙන් ලබන දැනුමට වඩා පිරිසිදු දැනුමකි. විඤ්ඤාණයෙන් ලබන දැනුම ප්‍රිය අප්‍රිය යන අන්ත දෙකට වහල් වූ දැනුමකි. නමුත් ''පජානාති'' යන දැනුම ඊට වඩා වෙනස් දැනුමකි. ''පජානාති'' නැතිනම් "ප්‍රජනනය" යනු අරමුණක් හිතේ මතුවෙන බව දැන ගැනීම හා නැවත නැවතත් නොකඩවාම ඒ අරමුණ දිගේම හිතින්ම රවුම් ගහන බව දැනගන්නා දැනුමයි. මෙය ඥාණයක් වශයෙන්ද පෙන්වා දිය හැකියි.

"සම්පජානාති" යනු ඒ අරමුණට මුල් වූ හිතේම ජනිත වන සමුදය (සං+උපත) ධර්මය පිළිබඳවද ලබා ගන්නා දැනුමයි. එහෙම නැත්නම් මේ අරමුණට හේතුව වන රාගයෙන් ඇලීම, ද්වේෂයෙන් ගැටීම හා මානයෙන්, මෝහයෙන් මුළාවීම යන සමුදය ධර්මවලින් කුමන හේතුවක් නිසා මේ සිතුවිලි පහළ වෙනවාද යන්න තමාටම වෙන් කර දැන ගැනීමට හැකි වන ශක්තිය "සම්පජානකාරී" යන පදයෙන් විග්‍රහ වේ. මේ අනුව "සං" තේරුම් ගත් කෙනෙකුටම පමණක් සං+පජානකාරී වීමටත් සං+පඤ්ඤ වීමටත් හැකියාව ලැබේ.

"අභික්කන්තේ පටික්කන්තේ" යනු ඉදිරිය හා පසුපස ලෙස සමහරුන් විග්‍රහ කළත් මෙතැනදී තමන්ගේ හිතේ ඇති වූ අරමුණ දිගේම ඉදිරියට ගොස් එය විමසා ඒ අරමුණට බැස ඒ අරමුණේ අතීතයත් දැන, හේතුඵල දහමට බහා ගළපා බලා හේතුව හා ඵලය දෙකම දැක "සම්පජානය" වන ආකාරය එහෙමත් නැත්නම් සමුදය හා වැය යන ආකාර දෙකමත් දැක, හේතුවෙන් නිදහස් වී ඵලයෙන් ද නිදහස් වීමට කටයුතු කළ යුතුයි. ''සම්පජානකාරීහෝති'' යනුවෙන් විග්‍රහ කළේ මෙයයි.

"අලෝකිතෙ, විලෝකිතෙ" යනුවෙන් අදහස් කළේ රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් හදාගත්, හදාගෙන පරිහරණය කරන ලෝකය (අ+ලෝක) අත් හැරීමත්, ඒ හදාගත් ලෝකයෙන් වෙන්වීමත් (වි+ලෝක) යන ක්‍රියා දෙකයි. එසේ කටයුතු කරන පුද්ගලයෙකු උපේක්ඛා සිතින්ම කටයුතු කරන "සම්පජානකාරී" පුද්ගලයෙක්ද ලෙස හඳුන්වනු ලැබේ.

"සංඝාටිපත්තචීවරධාරණේ" යනුවෙන් ප්‍රකාශ කළේත් සිවුරු, පාත්‍රා දැරීම වාගේම, සිවුපසයම පරිහරණය කිරීමේදී භික්ඛුවක් "සම්පජානකාරී" විය යුතු බව ප්‍රකාශ කිරීමයි. එනම් රාගයෙන් තොර, ද්වේෂයෙන් තොර, මෝහයෙන් තොර සංවර වූ සංයමයට පත් වූ සංඝුන් ගති ඇතිව ක්‍රියා කළ යුතු බවයි.

කරන, කියන, හිතන, කන, බොන, ගමන් කරන, නිදියන, ඉඳගෙන, හිටගෙන ආදී වශයෙන් හැම අවස්ථාවකදීමත් "සම්පජානකාරී" විය යුතුයි. රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් සමුදය බිහිකරන ක්‍රියාවන්ගෙන් වෙන් වී දවසේ පැය 24 දීම කටයුතු කිරීමට පුරුදු විය යුතුය. රාගය, ද්වේෂය, මෝහය මුල් වීම නිසා හිත කිළිටි කර, රත් කර, හිත මත් කර, හිතේ අනවශ්‍ය ශක්තියක් උත්පාදනය කර සංසාර ගමන දිගින් දිගටම පවත්වා ගෙන යාමට උපකාර වන කර්ම බීජ සකස් කර දීම සිදු වේ. ''සං+ප්‍රජනනය'' වන ආකාරය, සමුදය බිහිවන ආකාරය දැක ගත් කෙනෙකුට පමණක්ම "සම්මා දිට්ඨියට" පත් වූ "ධම්මෝ සංදිට්ඨිකෝ" යන තත්ත්වය තමා තුළින්ම තේරුම් ගැනීමට හැකි වේ. එවැනි පුද්ගලයෙකු මඟ නැණ පහළ වූ නිවන් මාර්ගයට පිළිපන් පුද්ගලයෙක් යනුවෙන් පෙන්වා දිය හැකියි. මේ අනුව සතියෙහි පිහිටා සතර සතිපට්ඨානයෙන් යුතුව කටයුතු කරන කෙනෙකු "සම්පජානකාරී" තත්ත්වයෙන් කටයුතු කරන විට දවසේ පැය විසිහතර තුළම (නිදාගන්නා කාලය හැර) හේතුඵල දහමට බහා ගළපා කටයුතු කරමින් නිවන් මාර්ගය සම්පූර්ණ කර ගැනීමට අවශ්‍ය ශක්තිය හා හැකියාව ලබා ගනී. තමනුත් නිවී අනුන්වත් නිවීමට කටයුතු කරයි. තමන් ගින්නක්, දාහයක් උරුමවන ක්‍රියාකාරකම් කිසිවිටෙකත් නොකරයි. අනුන්ව ගින්නෙන් දාහයෙන් අවුළුවන ක්‍රියාවන් කිරීමටද කිසිවිටෙකත් කටයුතු නොකරයි.

ආනාපාන පබ්බය, ඉරියාපථ පබ්බය, සම්පජඤ්ඤ පබ්බය යන සිත නිවන මෙම ක්‍රමවේදයන් තුනම උපකාර වන්නේ ක්‍රියාවේ වේගය සංසිඳවා, කායේකායානු පස්සනාවෙන් සිතේ මත් වීමේ, රත් වීමේ වේගය පාලනය කර ගැනීමටයි.

පටික්කූල මනසිකාර පබ්බය, ධාතුමනසිකාර පබ්බය හා නවසීවතික පබ්බය යන ක්‍රමවේද තුනම කෙනෙකුට උපකාර වන්නේ සණ සඤ්ඤාව දුරු කර, ධ්‍රැව සඤ්ඤාව දුරු කර ගැනීමටයි. මෙතැන සත්ත්වයෙක් පුද්ගලයෙක් හෝ "ස්වකය" හෝ යනුවෙන් දෙයක් විග්‍රහ කළ හැකි නොවේ. දිගටම පවත්වා යා හැකි "මම" යනුවෙන් පුද්ගලයෙකු නැති බවත් හේතූන් කරනා තුරාවට ඵල භුක්ති විඳින ධර්මතාවයක් පමණක් ඇති බවත් වටහා ගත යුතුයි. නියාම ධර්මයන් තේරුම් ගැනීමටත් ඒ පිළිබඳව යථාවබෝධයක් ලබා ගැනීමටත් මේ තුන් ආකාර වූ කායේකායානුපස්සනාව වැඩිය යුතු වේ.

''පටික්කූල'' යන පදය පිළිකුල් භාවනාවක් ලෙස වැරදි අර්ථයකින්ම අද භාවිතා වේ. මේ ශරීරය කේශා, ලෝමා, නඛා, දන්තා ආදී වශයෙන් කොටස් තිස් දෙකකට බෙදා, මේ කය දෙස බැලිය හැකි බව බුදුපියාණන්වහන්සේම පැහැදිළි කර වදාළහ. එසේ බෙදා බැලීම නිසා, පටි+කුලක තත්ත්වයෙන් මිදීමට හැකියාව ලැබේ. සණ සඤ්ඤාවත් මම, මගේ, මාගේ ආත්මය යන ආත්මීය බලාපොරොත්තු ඇති වන්නේ මේ කොටස් තිස් දෙකම එකක් ලෙසම දකිනා තුරුම පමණි. මේ "මම" යනුවෙන් දැක ගන්නේ "අසුචි" කොටස් තිස් දෙකකි. "අසුචි" යනු "සුචි" යන පදයේ ද්වතාව අර්ථයයි. සුචි යනු

සුව+චිත්තය, ප්‍රිය මධුර බවයි. අසුභ බව, අසුන්දර බව, අමිහිරි බව ''අසුචි'' යනුවෙන් හැඳින්වේ. කෙළෙස් යනුවෙන් අපි මේ අසුචි කොටස් තිස්දෙකම එකක් ලෙස "මම" ලෙස ඝන සඤ්ඤාවක් ලෙස දැක කටයුතු කරමු. සියලුම ක්‍රියාකාරකම් පවත්වා "මම" යන පුද්ගලයාව ජීවත් කරවීම සඳහා නිබඳවම දරණ උත්සාහයද දැක ගත යුතුයි. මේ සියල්ලම ආත්මීය බලාපොරොත්තු පොදියක් පමණි.

ආත්මීය බලාපොරොත්තුවක් සිතට අරමුණුවීමත් සමගම සං+උත්පාදනය වේ. මේ සමුදය වීමට සම්බන්ධ වීම ලෙස අපි හඳුන්වමු. "මම" සංකල්පය, ඝණ සඤ්ඤාව, සත්ත්ව පුද්ගල ආකල්පය යන සියල්ලමත් පෘථග්ජන පුද්ගලයෙකුගේ සිතේ මුල් බැහැගෙන ක්‍රියාත්මකව පවතින්නේම සමුදය ධර්ම උත්පාද වීම නිසයි.

"සබ්බේ ධම්මා අනත්ථාති" යන බුද්ධ දේශණාවෙන් ප්‍රකාශකර වදාළ උතුම් ධර්මය වටහා ගන්නා තුරු කෙනෙකුට මේ "මම" යන ආත්ම සංකල්පයෙන් නම් වෙන් විය නොහැකියි. "සබ්බේ සංඛාරා අනිච්චාතී" "සබ්බේ සංඛාරා දුක්ඛාතී" යන යථාර්ථය තේරුම් ගන්නා තුරුම යථාපරිදිම "යථා පඤ්ඤාය පස්සතී" ''සබ්බේ ධම්මා අනත්ථාතී " යන ධර්මතාවයන්ද තේරුම් ගැනීම කළ නොහැකි වේ.

පටික්කුල මනසිකාර භාවනාවෙන් "මම" යන ඝණ සඤ්ඤාව ආත්ම සංකල්පය දුරු කරගත හැකිනම් එතැනදී හේතුඵල ධර්මයත් යථාපරිදිම අවබෝධ වීමට පටන් ගනී. ඝණ සඤ්ඤාව පවතිනා තුරාවට සත්ත්වයෙක්, පුද්ගලයෙක්, "මම" යන ආත්ම සංකල්පයකුත් පවතී.

ධාතුමනසිකාර පබ්බය සේම නවසීවතික පබ්බය භාවනා කිරීම මගින් ද අවබෝධ කර ගත යුත්තේ සත්ත්වයෙක්, පුද්ගලයෙක් යනුවෙන් දිගින් දිගටම, සදහටම පවතින කෙනෙක් නොමැති බවයි. හේතුවක් නිසා එකටම බැඳුණු ආපෝ, තේජෝ, වායෝ, පඨවි, වර්ණ, ගන්ධ, රස, ඕජා යන ශුද්ධාෂ්ටක කොටස් අටක් එක ගොඩකට ගොනු කර, උත්පාදනය කර ගෙන ආත්ම සංඥාවකින් එයම පරිහරණය කිරීමත් මෙතැනදී සිදුවන බව වටහා ගත යුතුයි. මෙය දිගටම සදාකාලිකවම කැමති ආකාරයටම පරිහරණය කළ නොහැක. ක්‍රියාවේ වේගය, ශක්තිය අවසාන වීමත් සමගම උපාදානය කරගත් කොටස් අටම, ශුද්ධාෂ්ටක දිය වී, කුණු වී ඒ ඒ කොටස් තමන්ට නියමිත තැන්වලට මුදා හැරීමක් සිදු වනවා විනා මෙතැන "මම" යනුවෙන් පුද්ගලයෙකු දැකිය නොහැකිය. ඇත්තේ මුළාවක් පමණි. කොතරම් උත්සාහ ගත්තත් සදාකාලයටම පවත්වා ගත හැකි "මම" යනුවෙන් කෙනෙක් නොමැති බව වටහා ගත යුතුයි. කළ නොහැකි දෙයක් කිරීමට උත්සාහ ගැනීම නිසා සිදු වන්නේ දුක උරුම කරගැනීම පමණි.

සක්කාය දිට්ඨිය, විචිකිච්චිතාවය හා සීලබ්බත පරාමාසය යන සංයෝජන තුනම ප්‍රහාණය වන්නේත් මේ "දිට්ඨි අනුසය හා විචිකිච්චා අනුසය" දුරුවීමෙනුයි. ''මම''යන වැරදි දැකීමක් මෙතෙක් කල්ම සංසාරයේ දිගින් දිගටම පවත්වාගෙන ආවත් දැන් ඇත්ත දැකීමට පුරුදු විය යුතුයි. ශරීර කුඩුවක් හදාගත්තේ ජීවිතය පවත්වා ගෙන යාම සඳහායි. නමුත් විඤ්ඤාණය කරන්නේ මේ කුණුප කොටස් වලින් අනවශ්‍ය වැඩක් ගැනීමයි. ඒ

අනවශ්‍ය වැඩය විඤ්ඤාණ බීජ සකස් කර ගබඩා කර පවත්වා ගෙන යාමයි. රාගයෙන් ඇලීම, ද්වේෂයෙන් ගැටීම, මෝහයෙන්, මානයෙන් මුළාවීම මගින් විඤ්ඤාණ බීජ සකස් කර ගනී. මේ අනවශ්‍ය වැඩ කොටස නවතා ගැනීමට පුරුදු විය හැකි නම් ''දුක'' මෙතැනින්ම අවසාන කර ගැනීමත් කළ හැකියි.

මේ ආකාරයට වෙන් වෙන් වශයෙන් මනසින් දක ගත හැකි කුණුප කොටස් තිස් දෙකමත් විඤ්ඤාණ ශක්තියෙන් එකට බැඳ, සම්බන්ධ කර "මම" යනුවෙන් ඒකකයක් ගොඩනගා ගෙන ඒ ඒකකය ලෝකයක් ලෙසත් දකී. මේ මගේ යන ලෝකය දිගින් දිගටම පවත්වා ගැනීමට බාහිර ලෝකයටත් ''මම'' සම්බන්ධ වේ. මේ අනුව අධ්‍යාත්මික ලෝකයේ පැවැත්ම දිගින් දිගටම පවත්වා ගන්නත් මතු පැවැත්මක් සහතික කර ගන්නත් සුරක්ෂිත කරගන්නත් සියලුම දුක් විඳී. මේ ආකාරයට ලෝකය පවත්වා ගැනීමට දුක් විඳින්නේ මේ පැවැත්මේ සත්‍යම වූ ස්වභාවය වූ ''දුක'' නොදකින නිසයි. "අනිච්ච, දුක්ඛ, අනත්ථ" යන සත්‍යයන් අවබෝධ කර "නිච්ච, සුඛ, අත්ථ සඤ්ඤාවන්" අත් හැරීමම දුකෙන් නිදහස් වීමට අනුගමනය කළයුතු නිවැරදි මාර්ගයයි.

නිවන, නිවීම, නිබ්බාන යන පදවලින් විග්‍රහ කර පෙන්වා දී ඇත්තේ ''ගිනි ගොඩක් නිවනවා'' යන අර්ථයෙන්මයි. මේ පැවැත්ම පවත්වාගෙන යාමට දරණ සෑම උත්සාහයකින්ම නැවත නැවතත් ගිනි ගොඩක් අවුළුවා ගනී. ගින්නක් හට ගැනීමට නම් හේතුවක් තිබිය යුතුමයි. මෙතැන ගින්නට හේතුව ''දර සුන්වීමයි''. සුන්දර දේ හඹා යාමට හැම පෘථග්ජන පුද්ගලයෙකුම තම මුළු ජීවිත කාලයම රාගයෙන්, ආශාවෙන් සුන්දර දේ පරිහරණය කිරීමේ සංසාර පුරුද්දකින් කටයුතු කරති. ප්‍රිය මධුර දේට ඇලෙති. ප්‍රිය මධුර දේ ලෙස හිතන දේ, නිගමනය කරන දේ නැවත නැවතත් ලබා ගැනීමටම, ප්‍රිය මධුර දේ ඒ ප්‍රිය මධුර වූ ආකාරයෙන්ම දිගටම පවත්වා ගැනීමටත් උත්සාහ ගනී. නමුත් ධර්මතාවය එය නොවෙයි. හැම ප්‍රිය මධුර දෙයක්ම වෙනස් වී විපරිණාමයට පත් වී ගෙවී විනාශ වී නිස්සරණයට පත් වීමයි. මේ "ප්‍රිය මධුර " යන ආකල්ප පවතින්නේ ගතිය පවතින්නේ තමන්ගේම හිත තුළම බව නොදැනීම අරිය සත්‍යයන් නොදැනීමයි.

මේ අරිය සත්‍යයන් කෙනෙකුට පහසුවෙන්ම තේරුම් ගැනීමට හැකියාවක්, ශක්තියක් නැත්තේ රාගයෙන්, ද්වේෂයෙන්, තණ්හාවෙන් තම සිතම මුවහ වී වැසී පවතින නිසාමයි. පංචකාම නීවරණ ධර්මවලින්ම තම සිත ආවරණය වී ඇති නිසාමයි. ආනාපාන සති භාවනාවෙන් සිදු වන්නේ මේ පංචකාම නීවරණ ධර්මයන් නිවන වසා සිටින කෙළෙස් ධර්මයන් ක්‍රමානුකූලව ඉවත් කර දමා සිත ශුද්ධ පවිත්‍ර කර ගැනීමයි. මෙය කුසලස්ස යන පදයෙන් අර්ථ ගැන්වේ. එසේ නම් කුසලස්ස යන පදයෙන් අදහස් කළේ යමක් එකතු කර ගැනීම පිළිබඳව නොවෙයි. අතීතයේ එකතු කරගත් කෙළෙස් අස්කර දමා චිත්තසංථානය පිරිසිදු කර ගැනීමත් වර්තමානයේදී අලුතින් කුණු උපත ලබන (කෙළෙස් උත්පාදවන) කෙළෙස් මුල් ගළවා චිත්තසංථානය පිරිසිදු කර ගැනීමත් යන අර්ථයෙන්මයි. "කුසලස්ස උපසම්පදා" යන පදවැල්වලින් බුද්ධ භාෂිතයේදී විග්‍රහ කළේ සිත ශුද්ධ පවිත්‍ර වීමයි. සිත ශුද්ධ පවිත්‍ර වීමට නම් කෙළෙස් ධර්ම සිතෙන්ම ප්‍රහාණය කර ඉවත් කිරීමත් නික්ලේසී ධර්ම පරිහරණය කිරීමත් යන ක්‍රියාකාරකම් දෙකම යථාවබෝධයකින්ම යුතුව පුරුදු විය යුතුයි.

ආනාපාන පබ්බය, ඉරියාපත පබ්බය හා සංපජඤ්ඤ පබ්බය යන මුල් පබ්බ තුනම යථාවබෝධය ප්‍රගුණ වීමත් සමඟම එකටම අනුගමනය කිරීමට හැකිවන ක්‍රමවේදයන් තුනක්ම බවත් තේරුම් ගත හැකි විය යුතුයි. ප්‍රඥා විමුක්ත පුද්ගලයාට සහ උභතෝභාග විමුක්ත පුද්ගලයාට මේ සඳහන් කළ පබ්බ, ක්‍රමවේදයන් තුන අනුගමනය කිරීමත් සමඟම මාර්ගය සම්පූර්ණ වී සම්මා අංග අටමත් සම්පූර්ණ වීමෙන් සම්මා ඥාණ, සම්මා විමුක්තිය සම්පූර්ණ වීමද ධර්මතාවයෙන්ම සිදු වන්නකි.

ධම්මානුසාරී, සද්ධානුසාරී, සද්ධා විමුක්ත යන පුද්ගලයින් කොටස් තුනටම පටික්කුල මනසිකාර පබ්බය, ධාතුමනසිකාර පබ්බය හා නවසීවතික පබ්බයත් අවබෝධ කර ගැනීමෙන් සණ සඤ්ඤාව, ධ්‍රැව සඤ්ඤාව දුරු කර සත්ත්ව පුද්ගල සංකල්පයෙන්ද වෙන්වීමත් සමඟම සක්කාය දිට්ඨියෙන් වෙන් වීමත් දිට්ඨි අනුසය හා විචිකිච්ඡා අනුසය දුරු වීමත් සමඟ අරිය තත්ත්වයට පත් වේ. චිත්තසංථානය තුළ "සං" ප්‍රජනනය වන ආකාරය යථාපරිදි දැක "සං" ප්‍රහාණය කර චිත්තසංථානය ශුද්ධ පවිත්‍ර කරගත් කෙනෙකුට පමණක් නිවන් සුවය අත්විඳ ගත හැකියි . "සං" පජඤ්ඤ පබ්බයෙන් අවබෝධ කරගත යුතු වන්නේ සං ප්‍රහාණය කිරීමේ නිවැරදි ක්‍රමවේදයයි. "සං" යනු රාග, ද්වේෂ, මෝහ යන ගති තුනෙන්ම නැවත නැවතත් රාග, ද්වේෂ, මෝහ යන ක්‍රියාකාරකම් සිදු වී නැවත නැවතත් රාග, ද්වේෂ, මෝහ ගතිම උත්පාදනය වීමයි.

මේ අනුව කායේකායානුපස්සනාව භාවනා කිරීම යනු කැළෑවකට වී, ගහක් මුලට වී, ජනශුන්‍ය ස්ථානයකට වී නොසෙල්වී කය දෙසම බලා සිට කරගත හැකි දෙයක් නොවේ. යථාවබෝධයෙන්ම, ප්‍රත්‍යක්ෂ අවබෝධයෙන්ම යුතුව දවසේ පැය විසිහතර තුළම තමන් කරන, කියන, හිතන සියලුම ක්‍රියාකාරකම් යම්කිසි පාලනයකට යටත්ව අන්තවාදී ලෙසින් නොඇලී, නොගැටී, මුළා නොවී, උපේක්ඛා සිතින්ම ඉවසා, විමසා ක්‍රියා කිරීමට පුරුදු වීමයි.

තමා තමා ගැනම කල්පනා කළ යුතුයි. තමන්ට යථාවබෝධයක් නොතිබූ යටගිය යුගයේදී ප්‍රිය දේවලට ඇලුණත් දැන් එසේ නොවන බවත් අතීතයේදී අප්‍රිය දේ නිසා සිතට ද්වේෂයක්, දොම්නසක් ඇති වුණත් දැන් එසේ නොවන බවත් වෙනස වටහා ගත යුතුයි. අතීතයේ පෘථග්ජන පුද්ගලයෙකු ලෙසින් මානයෙන්ම, මෝහයෙන්ම තමන් කටයුතු කළ බවද තමන්ටම දැන් වැටහිය යුතුයි. "මම බලවත්, මම දන්නවා, මට වඩා කෙනෙක් නැහැ, මට වඩා ඉහළින් යන්න තවත් කෙනෙකුට ඉඩ දෙන්න බැහැ." ඒ අනුවම අස්මි මානයෙන් කටයුතු කළද දැන් එසේ ක්‍රියා නොකරයි. අතීතයේදී හිතාගෙන සිටි සණ සඤ්ඤාවක්, මමත්වයක් දැන් නොදකී. මේ පැවැත්ම ජීවත් වීම යනු නිරන්තරවම හේතුන් කරන ඵලයන් උරුම කරගන්නා හේතුඵල පරම්පරාවක් පමණි. මේ හේතුව වෙනස් කරගැනීමට තමන්ටම හැකියාවක් ඇත. හේතුව ක්‍රියාත්මක නොකරම සිටීමට වුවද තමන්ටම හැකියාව දැන් ලැබී ඇත. හේතු නැති තැනක ඵල උරුම නොවන බවත් දකී. මෙවන් වූ යථාවබෝධයෙන් යුක්තව කටයුතු කරන හැමවිටකදීම ක්‍රියාවෙන් උත්පාදනය වන්නා වූ මත් වීමේ, රත්වීමේ විඤ්ඤාණ ශක්තියද උපදින්නේ නැති විට සිත විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිණාමී යන උතුම්, නිදහස් නිවුන තත්ත්වයටම පත් වේ.

## වේදනාසු වේදනානුපස්සනාව

සෑම පෘථග්ජන පුද්ගලයෙකුම ඉන්ද්‍රියයන් පිනවීම සැපය, සුවය, සතුට, සන්තෝෂය යනුවෙන් හඳුන්වයි. මෙසේ ඇස, කන ආදී ඉන්ද්‍රියයන් පිනවා සතුටක් ලැබිය හැක්කේ බලාපොරොත්තුවක් සිත තුළ රැඳී පවතින තුරුම පමණි. "සුඛ වේදනං වේදියමානෝ" යන පදවලින් පෙන්වා දුන්නේ හිත පිනවන ආමිස - සාමිස බලාපොරොත්තුවක් හිතේ පවතින තුරාවටම කෙනෙකුගේ පංච ඉන්ද්‍රියයන්ම පිනවන ස්වරූපයක් පවතින බවයි. ''වේදියමානෝ '' යනු විඳවීමේ දැනීමක් පවතින අදහසයි. බලාපොරොත්තුවක් ඉටුවීමත් සමඟ හෝ බලාපොරොත්තුවක් කඩවීමත් සමඟම හෝ මේ සැප විඳවීමේ වේගය අවසන් වේ. ඒ අවසන් වන්නේ සුඛ වේදනාවයි. දැන් මතුවෙන්නේ දුක් වේදනාවක් හෝ අදුක්ඛම අසුඛ වේදනාවකි. ''පජානාති" යනුවෙන් මෙතැනදීද මේ අවස්ථාව විග්‍රහ කර ඇත. පෘථග්ජන පුද්ගලයෙකුට පවා සතියෙන් යුතුව කටයුතු කරන විට මේ සුඛ වේදනාව, දුක් වේදනාව හෝ අදුක්ඛම අසුඛ වේදනාව උපදින ආකාරය තමා තුළින්ම තමාටම දැනගැනීමට හැකි නම් ඒ උසස් දැනුම මෙතැනදී "පජානාති" යන පදයෙන් අර්ථ ගන්වන ලදී. මෙහිදී වර්ග දෙකොටසක් විග්‍රහ කර පෙන්වා දී ඇත.

"සාමිසං සුඛං වේදනං වේදියාමීති පජානාති"
''නිරාමිසං වා සුඛං වේදනං වේදියමානෝ
නිරාමිසං සුඛං වේදනං වේදියාමීති පජානාති"යන කොටස් දෙකයි.

සාමිස සුවය - සුඛය යනු බලාපොරොත්තුවක් සිත තුළ පවත්වාගෙන ඒ බලාපොරොත්තුවේ හිතින්ම එල්ලී ඇලී ඒ බලාපොරොත්තුව පවතින තුරා ඉන්ද්‍රියන් පිනවීමයි. මෙතැන විග්‍රහ වන්නේ යමක් උපාදානය කර ගැනීමේ සුවයක් පිළිබඳවයි. ඒ බලාපොරොත්තු වූ දේ උපාදානය කර එහි අයිතිකරු බවට පත් වීම නිසා බැම්මකට බැඳේ. මේ බැඳීම නිසා බරක් ඉසිලීමටද සිදු වේ. ඒ බර වටිනවා යනුවෙන් සිතන නිසාත් සාරවත් නිසාත් අල්ලාගෙන උපාදානය කරගනී. මේ නිසා බලාපොරොත්තුව ඉටු වනතුරු පැවති සාමිස සුවය දැන් බලාපොරොත්තුව ඉටුවීමත් සමඟම දුකක් බවටත් පරිවර්තනය වේ. මේ විපරිණාමය පෘථග්ජන පුද්ගලයෙකුට දැක ගත නොහැකියි. එසේ දැක ගැනීමට පෙර විඤ්ඤාණය අලුත් බලාපොරාත්තුවක් එම සිතේම බිහි කරයි. මතු කරයි. ඒ නිසා දැන් යළි යළිත් අලුත් බලාපොරොත්තුව තුළින් සාමිස සුවයක් විඳී. දුක යටපත් කරවනු ලැබේ.

නිරාමිස සුවය යනු මීට හාත්පසින්ම වෙනස් සුවයකි. බලාපොරොත්තුවක් නිසා ලෞකික යමක් උපාදානය කර ගැනීම හිතේ භයට, බැම්මට, බරට මුල් වේ. දැන් යමක් උපාදානය කරගැනීමේ බලාපොරොත්තුවක් නැතිනම් එතැනදී බරක්, භයක්, බැම්මක් හෝ බලයක්ද සිත තුළ ඇති නොවේ. සිත නිදහස් වේ. දැන් නැති වීමට හෝ අහිමි වීමට හෝ දෙයක් නොමැත. මේ සුවය නිරාමිස සුවයයි. "නිරාමිසං දුක්ඛං වේදනං වේදියාමීති පජානාති'' යනුවෙන් විග්‍රහ වන දේ පිළිබඳවත් මෙහිදී දැනගත යුතුයි. අතීතයේදී තමන් අල්ලාගෙන සිටි, උපාදානය කරගෙන සිටි දේ දැන් අතහැර එක් වරම නිදහස් වීමත් වේදනාවක්, හිතට දුකක් ලෙස දැනෙතත් එයද උපේක්ඛා සිතින් ඉවසීමට පුරුදු වීම නිසා දැන් නිදහස් වීමේ සුවය බලවත්ව අත්විඳ ගැනීමට හැකිවේ. ඒ නිසා අත්හැරීමේ සුවය

දිගින් දිගටම අනන්තය තෙක්ම ලබන සුවයක් බවට පත්වේ. මේ නිරාමිස සුවයයි. සඳහටම බරෙන්, බයෙන් බැම්මෙන් මිදී නිදහස් වීම නිරාමිස සුවයයි. මේ සුවය පිළිබඳව ඇතිවන දැනුම වේදනානුපස්සනාවයි. මෙතැනත් ආධ්‍යාත්මික හා බාහිර වශයෙන් සිතේ මතුවන බලාපොරොත්තු අත්හැරීමෙන් ''මම'', ''මගේ'', ''අපි'', ''අපේ'' යන කොටස් දෙකම පිළිබඳව තිබූ උපාදානයත් අත් හැරේ. "නච කිංචි ලෝකේ උපාදියති" උපාදානය කරගත් කිසිම දෙයක් සිතේ නැති කළ සිතින් හදාගත් ලෝකයකුත් නොපවතී. ලෝකය යනු සිතින්ම උපාදානය කර ගත් සියලුම දේ සහ ඒවාම පරිහරණය කිරීම බව දැන් මනාව තමාටම අවබෝධ වේ.

මෙතනදී වේදනානුපස්සනාව යනුවෙන් විශේෂයෙන් කළ යුතු දෙයක් නැත. ක්‍රියාවේ වේගය කායේ කායානුපස්සනාව වැඩීමත් සමගම එහි වේදනාවේ වේගය සංසිඳීමත් දැන ගැනීම (පජානාති) පමණක් අවශ්‍ය වේ. මෙතැනදී යථා පරිදි දැන ගත යුතු දේ වනුයේ අපි ඉන්ද්‍රියයන් පිනවීම සඳහා ප්‍රිය දේ සමඟ ඇලී, ප්‍රිය දේ උපාදානය කර ගැනීමට ඇති බලාපොරොත්තු සුව වේදනාව බවත් අප්‍රිය දේ සමඟ ගැටී ඒවා බැහැර කිරීමට ඒවාට විරුද්ධව ක්‍රියා කිරීමට ඇතිවන බලාපොරොත්තු නිසා ඇති කරගනු ලබන උපාදානය (විභව තණ්හා) දුක් වේදනාව ලෙසත් මෙහිදී වේදනාව පිළිබඳව වටහා ගත යුතු වේ. මේ අනුව කායේ කායානුපස්සනාව වැඩීමේ ප්‍රතිඵලයක් ලෙස ක්‍රියාවේ වේගය සංසිඳී, උපේක්ඛා සිතින් ඉවසා විමසා කටයුතු කරන්නට වීම නිසා දැඩිව ප්‍රිය දේට ඇලීමත්, දැඩිව අප්‍රිය දේ සමඟ ගැටීමත්, මානයෙන් මෝහයෙන් මුළා වීමත් ක්‍රමානුකූලවම අවමකර ගැනීමෙන් වේදනානුපස්සනාවද සම්පූර්ණ වේ. දැන් විඳවීමේ වේගයද සංසිඳ වේ.

බාහිර ලෝකයේ අනන්ත අප්‍රමාණ වූ සිද්ධීන් සිදු වේ. එක පුද්ගලයෙක් පිළිබඳව සළකා බැලූ විට ලෝකයේ සිදුවන සියලුම සිද්ධීන් නිසා පුද්ගලයෙකුගේ සිතට වේදනාවක් ඇති නොවේ. තමන්ගේ සිතට අරමුණු වූ යම් වෙනස්කමක් සිත තුළ ඇති කරවන සිද්ධියක් නිසා පමණක් කෙනෙකුට වේදනාවක් ඇති වේ. වේදනාව සැප වේදනාවක් වන්නේ ඒ සිදුවීමට ප්‍රිය වුවහොත් පමණි. වේදනාව දුක් වේදනාවක් වන්නේ ඒ සිදුවීම අප්‍රිය, අමිහිරි වෙනස්කමක් සිතේ ඇති කරවන්නට හේතුවෙනවා නම් පමණි. ප්‍රිය දේත් උපාදානය කරගනී. අප්‍රිය දේත් අතීතයේ උපාදානය කරගත් දේම වේ. මේ ආකාරයට සිතේ යම් වෙනසක් සිදුවීම වෙනසක් දැනීම සංඥා යනුවෙන් හඳුන්වයි. සිතේ ඇති වූ වෙනසට ප්‍රිය අප්‍රිය වීම නිසා ඒ වෙනසට දිගටම සම්බන්ධ වීම සංඛාර කිරීමයි. ක්‍රියා සිතකින්, කාර සිතකින් කරන්නේ ඒ දැනීම අනුව යම් ක්‍රියාවක් කිරීමයි. ක්‍රියා සිතකින් යමක් උපාදානය කර නොගනී. නමුත් පරිහරණය කිරීම පමණක් සිදු කරයි. යමක් අල්ලාගෙන තමාටම යනුවෙන් බදාගෙන දිගින් දිගටම පරිහරණය කිරීමේ ආසාවක්, අවශ්‍යතාවයක් උපාදානය කිරීම යනුවෙන් හඳුන්වයි. එහෙම නැතිනම් තමාගේම තනි පරිහරණයට වෙන් කර ගැනීම උපාදානය කර ගැනීමයි. තමන්ට හිමි කොටස පමණක් පරිහරණය කිරීම උපාදානය කර ගැනීමක් නොවේ. ඒ මොහොතට අවශ්‍ය දේ පරිහරණය කිරීම පමණක් සිදු කරයි. මතුවට පරිහරණය කිරීමේ බලාපොරොත්තුව ඇතහැර ඇත. බුදුපියාණන්වහන්සේ බුද්ධත්වයට පත්වී ගත කළ වසර හතළිස් පහම තුළදී පංචස්කන්ධයම පරිහරණය කළ නමුත් පංචස්කන්ධය උපාදානය කර ගත්තේම නැත. මේ

දෙක අතරෙ ඇති වෙනස දැන ගැනීමත් සමගම වේදනානුපස්සනාවත්, චිත්තානුපස්සනාවත්, ධම්මානුපස්සනාවත් යන තුනම වැඩේ.

"සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට" පත්වූ අරහතුන්වහන්සේ කෙනෙකු පමණක් ලබා ගන්නා උසස්ම සමාපත්තියට පත්වීමේදී සිදුවෙන්නේ සංඥා සියල්ල නැතිවීමක් නොවෙයි. අරහතුන්වහන්සේලාට පෘථග්ජන පුද්ගලයෙකුටත් වඩා බොහොම පිරිසිදුව පැහැදිළිව සියලුම සංඥා ලැබුණත් ඒ සංඥාවන් හේතු කොට ගෙන උත්පාදනය වන විඳවීම, වේදනාව නොලබන තත්ත්වයට "වේදයිත" තත්ත්වයට සිත පත්වේ. ''වේදයිත'' යනු වේදනා විඳීමෙන් තොරවූ තත්ත්වයයි. සැප විඳීමේ හෝ දුක් විඳවීමේ හෝ බලාපොරොත්තුවෙන් තොරව ක්‍රියාකාරකමක් නොකරන විට සමුදය නිරෝධ වේ. "සං" උත්පාදනය නොවී නිර්උදා තත්ත්වයට සිත පත් වේ. එහෙම නම් ''සං'' උදාවීමට මූළික වන හේතුව සංඥාවකට ඇලීම හෝ ගැටීම නිසා වේදනාවක් රත්වීමක්, මත්වීමක් නිසාම යම් ශක්තියක් සිත තුළම ජනිත කරගැනීමයි. මේ ශක්තියක් ජනිත වීම "සංපජානනය" වීම යථා පරිදි දැක ''සං'' ප්‍රහාණය කර වේදනා නොවිඳින වේදනාවෙන් තොරවූ තත්ත්වයට පත්වීම "සංඥා වේදයිත නිරෝධ සමාපත්තිය" වේ. ''සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට'' පත් වූ අරහතුන්වහන්සේ "අස්ස පස්ස" යන ක්‍රියාකාරකම් දෙකම නොකරයි. හුස්ම ගැනීම, හුස්ම පිට කිරීම පිළිබඳව මෙහිදී කිසිවිටෙකත් අදහස් නොකෙරේ. මෙතැන ''අස්ස පස්ස'' යනුවෙන් අර්ථ ගැන්වූයේ රාග, ද්වේෂ, මෝහ ගතියෙන් යුතුව කරන, කියන, සිතන සියලුම ක්‍රියාකාරකම් ආශ්‍රය නොකිරීම පිළිබඳවයි. ප්‍රහාණය කිරීමට දැන් එවැනි ගති තමා තුළ නොමැති නිසා දැන් ඒවා ප්‍රහාණය කිරීමකුත් නොකරයි.

සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට පත් වූ අරහතුන්වහන්සේට හුස්ම නොගෙනම දිගටම සිටිය හැකි බව යම් කෙනෙකු පවසනවා නම් එය වැරදි මතයකි. විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, වොස්සග්ග පරිණාමී තත්ත්වයට පත්වීම මෙතැනදී සිදුවේ. ක්‍රියාවේ වේගය සංසිඳවා වේදනාවේ වේගය සංසිඳවා චිත්තාවේගය සංසිඳවා සියලු උපාදානයෙන් තොර වූ වොස්සග්ග තත්ත්වයට පත් වූ විට සංඥා වේදයිත තත්ත්වයට පත්වේ. හුස්ම ගැනීම පිට කිරීම දැනුමක් නැතිවම සිදු වේ. මෙතුවක් කාලයක් තම පාලනයෙන් තොර වූ සිතට වහල් වීමෙන් කැමැත්තට වහල් වී සිදු වූ දේ දැක දැන් සම්පූර්ණ වශයෙන්ම ඒවායේ වේගය පාලනය කර සංවරව, සංසුං වී, සංයමයට පත්වීමෙන් සම්මා තත්ත්වයට පත්වීම මෙතැනදී සිදු වේ.

අපි සම්මත ලෝකය යනුවෙන් නම් කරන මේ බාහිර ලෝකයේ යම් වරදක් නිසා දුක්, දෝමනස්ස වැනි වද වේදනා කිසිවිටෙකත් නොවිඳවමු. අපේ හිතේම කෙළෙස් ගති මුල් බැසගෙන පවතින නිසා දුකක් දොම්නසක් ඇති වීම සිදු වේ. තමන්ගේම හිතේ මුල්බැස ගෙන ක්‍රියාත්මකව පවතින මේ කෙළෙස් ගති තමන්ටම නොපෙනී තමන්ටම නොදැනීම (නප්පජානාති) චතු අරිය සත්‍යයන් අවබෝධ නොවීමත් අවිද්‍යාවෙන් තණ්හාවෙන් කටයුතු කිරීමත් ලෙස හැඳින්වේ. යම් කෙනෙකුට ධර්මාවබෝධය ලැබී පටිච්චසමුප්පාද ධර්මය තේරුම් ගැනීමට ශක්තිය හා හැකියාව ලැබුණොත් ඔහු ''ධම්මෝ සංදිට්ඨිකෝ'' තත්ත්වයට පත්වේ. තමන්ගේම සිතෙහි මුල් බැසගෙන පවතින ක්‍රියාත්මක වන "සමුදය'' දැක ගනී. එනම් තමන්ගේම සිතේ මුල් බැස ගෙන ක්‍රියාත්මක වන රාග ගති,

ද්වේෂ ගති, මෝහ ගති නිසාම මිස බාහිර ලෝකයේ වරදක්, දෝෂයක් නිසාවෙන් දුක් විඳින කෙනෙක් නැති බවත් දකී. මේ දැකීම දුක පිළිබඳව අරිය සත්‍යය අවබෝධ වීමයි. දුක්ඛ අරිය සත්‍යය අවබෝධය මෙන්ම සමුදය අරිය සත්‍යය අවබෝධ වීමත් මෙහිදී එක වරම සිදු වේ. "සං" උදා වීම දුකට හේතුව බව නිවැරදිව දැන ගත් පුද්ගලයාට "සං" නිරෝධ (නිර් උදා) කිරීමටත් හැකි වේ. මෙය නිරෝධ අරිය සත්‍යයයි.

## චිත්තානුපස්සනාව

සෝවාන් ඵලය ඉලක්ක කරමින් සෝවාන් ඵලයක් ගැන හෝ වෙනත් මාර්ග ඵලයක් ගැන හෝ දැඩි බලාපොරොත්තුවක් සිතේ ඇතිව භාවනා කිරීම හෝ කර්මස්ථාන වැඩීම හෝ යමෙකු කරයි නම් එයද වැරදි ක්‍රමයකි. මාර්ග ඵලයක් ලැබීමය යන්න එසේ දැඩි බලාපොරොත්තු ඇති කරගෙන ලබාගත හැකි එකක් නොවෙයි. ලෞකික වශයෙන් යම් භාණ්ඩයක් අයිතිකර ගැනීමේදී නම් යම් බලාපොරොත්තුවක් තබා ගෙන ඒ සඳහා ක්‍රියා කිරීම කළ හැකිය. නමුත් මෙතැන මාර්ග ඵලයක් ලබාගැනීම එවැනි බලාපොරොත්තු ඇති කර ගනිමින් එහිම එල්බ ගෙන සිට ලබාගත හැකි දෙයක් නොවේ. යම් බලාපොරොත්තුවක් සිතක ඇති වූ විට එය ලබා ගන්නා තෙක් සිතේ ඉවසීමක් නැත. සිත විසිරේ. ගිනි ගනී. මාර්ග ඵලයක් ලැබීම යනු නිදහස් වීමකි. සිත ගිනි ගන්නා, සිත විසිරෙන, සිත මත් කරවන සියලු දේ අත්හැරීමෙන්ම ලබාගත හැකි නිදහස් තත්ත්වයකි. යමෙකු සෝවාන් ඵලය බලාපොරොත්තු වේ නම් ඒ ඵලය නොලැබෙන තුරාවටම සිතත් රිදේ. නමුත් සෝවාන් ඵලය යනු ප්‍රායෝගික වශයෙන්ම අත්හැරිය යුතු දේ අත්හැරීමෙන්ම ගින්නේ වේගය නිවීයන ක්‍රියාවලියකි. මෙහි අලුතින් ලබාගත යුතු අලුත් තත්ත්වයක් ලබා ගැනීමක් නැත. සිතේ මෙතෙක් කල්ම ගබඩා වී තිබූ කුණු කන්දල් දැක ඒවා ඉවත් කර සිත පිරිසිදු කරගැනීම මෙතැනදී ඵලයක් ලැබීම ලෙස සැළකිය යුතුයි.

''සබ්බ පාපස්ස අකරණං කුසලස්ස උපසම්පදා" යන ක්‍රියාකාරකම් දෙකෙන්ම සිදු වන්නේ සිත පිරිසිදු වීමකි. ''අකරණං'' යනු පාපකාරී ක්‍රියාවන් කිරීම අත්හැරීමයි. අලුතින් කෙළෙස් එකතු වන්නේම පාපකාරී ක්‍රියාවලිනි. අලුතින් කෙළෙස් ගති චිත්තසංථානයට එකතුකර නොගන්නේ නම් සිත තවදුරටත් කිළිටි වීම නවතී. "කුසලස්ස" යනු අතීතයේ කරන ලද පව්කම් නිසා එකතු කරගත් කුණු, කෙළෙස් ගති සොළව සොළවා චිත්තසංථානයෙන් අස්කර ඉවත් කර දැමීමට කරන ක්‍රියාකාරකමයි. මේ අනුව මෙතැන පෙන්වා දුන් ක්‍රියාකාරකම් දෙකම උපකාර වන්නේ චිත්තසංථානයම පිරිසිදු කර ගැනීම සඳහායි. ඒවාගේම අස්ස පස්ස, ආන පාන යන ක්‍රියාකාරකම් දෙකමත් උපකාර වන්නේ චිත්තසංථානය පිරිසිදු කර ගැනීම සඳහාමයි. අලුත් කුණු ඇතුළට ගැනීම නතර කළ යුතු වේ. ඇතුළේ ඇති පරණ කුණු (කෙළෙස්) සොළවා ගළවා ඉවත් කිරීමද කළ යුතු වේ.

ක්‍රියාවේ වේගය සංසිඳවීමත් සමගම වේදනා විඳීමද නතර වේ. වේදනා විඳවීම නතර වූ විට චිත්තාවේගයද නතර වේ. දැන් සිත බොහොම සංසුන් සිතකි. විසුරුණු ගිනිගත් සිතක් දැන් නොපවතී.

ද්වතාවය පැහැදිළිවම තේරුම් ගත් කෙනෙකුට සරාගී සිතත් වීතරාගී සිතත් වෙන්

කර තේරුම් ගැනීම දැන් කළ හැකි වේ. සරාගී සිතින් ගින්න ඇවිළෙන බවත් සිත විසිරෙන බවත් සමුදය බිහිවන බවත් දකී. වීතරාගී සිතින් චිත්තාවේගය නැති වී සිත නිවෙන බවත් දකී. ඒවාගේම සදෝස සිතින් හා වීතදෝසී සිතින් කෙරෙන ක්‍රියාකාරකම් දෙකත් සමෝහී සිතින් හා වීතමෝහී සිතෙන් කෙරෙන ක්‍රියාකාරකම් දෙවර්ගය පිළිබඳවත් නිවැරදි පිරිසිදු දැනීමක් දැන් ලැබේ. "පජානාති" යනු සමුදය ප්‍රජනනය වන ආකාරය දැකීමයි. වේදනාව, වේගය, ගින්න, රත්වීම යන සියල්ලම සමුදය ප්‍රජනනයමයි. බිහිවීම, උත්පාදනය වීම සිදුවෙන්නේ සරාගී සිතත් හා සමෝහී සිතත් එකතු වීමෙන් හෝ සදෝසී සිතත් හා සමෝහී සිතත් එක සමඟ එකටම ක්‍රියාත්මක වීමෙන්මයි.

ගින්න නිවා දැමීමට නම් වීතරාගී, වීතදෝසී, වීතමෝහී සිත් භාවිතා කළයුතු බවත් දැන් දකී. මේ අනුව චිත්තානුපස්සනාව වැඩෙනවාත් සමගම කායේ කායානුපස්සනාවෙහි පිහිටා ක්‍රියා කිරීමේ හැකියාවත්, පුරුද්දත් ක්‍රමයෙන් දියුණු වේ.

සංඛිත්ත වන සිතත්, වික්ඛිත්ත වන සිතත් දැන් දැක ගනී. සංඛිත්ත වීම යනු රාග, ද්වේෂ, මෝහ ගති වලින් මත්වන සිතයි. වික්ඛිත්ත වීම යනු එවැනි මත් වීමෙන් තොරවූ වෙන් වුණු සිතයි.

මේ වගේම මහග්ගත සිතත්, අමග්ගත සිතත්, අසමාහිත වන සිතත්, අවිමුක්ත සිතත්, විමුක්ත සිතත් යන සිතේ හට ගන්නා විවිධ ස්වරූපයන්ගේ ද්වතාවයත් දකී. මෙහිදී වැදගත් වන්නේ මේ ද්වතාවය දැකීමයි. ද්වතාවය දෙපැත්ත දැකිය නොහැකි කෙනෙකුට මෙවන් විපස්සනා නුවණක් පහළ නොවේ. සුව - අසුව යන  දෙපැත්තම දැක ක්‍රියා කිරීමේ ශක්තියක් ලැබීමට මේ ආකාරයට චිත්තානුපස්සනාව වැඩිය යුතුයි. මෙතැනත් ''අජ්ඣත්තාවා බහිද්ධාවා'' යන ආධ්‍යාත්මික හා බාහිර වශයෙන් යන දෙපැත්තමත් දැක ගත හැකියි. තමන් හිතන සිතුවිලි නිසා තමන්ගේ සිතේ නිවීම ඇති වීමත් බාහිර පුද්ගලයින්ගේ සිතේ නිවීමක් ඇති වීමත් යන ද්වතාවයම දකී. තමන්ගේ සිතේ මතුවන ගින්නද අනෙක් බාහිර කෙනෙකුගේ සිතේ ගින්නක් මතුවන ක්‍රියාකාරකම්ද වෙන්වම දකී. දැක, ඒවායින් වෙන් වීමටත් ක්‍රියා කරයි. සමුදය වන ධර්මතාවයත් දකී. "නච කිංචි ලෝකේ උපාදියති" යන ධර්මතාවය අවබෝධ කරගනී. "උපාදානය කරගත් දෙයක් සිත තුළ නොපවතී නම් සාදා සකස් කරගත් ලෝකයකුත් නැත" යන ධර්මතාවයම අවබෝධ වේ.

බාහිර ලෝකයා මොන තරම් අසාධාරණ අකටයුතුකම් කළත් දැන් දැන් තමන් ඒවායින් හිත කම්පා කර නොගනී. ඒවායින් හිතේ ආවේගයක් ඇති නොවේ. එහෙම අසාධාරණ, අකටයුතුකම් කරන අයත් සමඟ වුවද දැන් තමන්ගේ හිතේ වෛරයක්, තරහක්, ද්වේෂයක් ඇති නොවේ. අසාධාරණ අයුරින් ක්‍රියාකරන්නේ ඒ ඒ අයගේ නොදැනීම, නොහැකියාව අනුවයි. මෙවැනි බාහිර හේතුවක් නිසා මගේ සිත රිදවාගන්නවා නම් එය මගේ දුර්වල කමක් මිස බාහිර ලෝකයේ ඇති වරදක් නොවන බවත් දැන් දකී. වැරදි ක්‍රියාවන්හි නිරත වන පුද්ගලයාවත් එයින් වළක්වා ගත හැකි නම් ඒ සඳහා හැකි සෑම උත්සාහයක්ම ගනී. ඒ මිස අනුන්ගේ වැරැද්දක් දැක ඊට තමන් උරණ නොවේ. මේ සත්‍යාවබෝධය නිවනට උපකාර වන ධර්මයයි. මේ කායේ කායානුපස්සනාව, වේදනා

වේදනානුපස්සනාව, චිත්තේ චිත්තානුපස්සනාවයි. මේ තුනටම මුල් වන්නේ තමන්ගේම ක්‍රියාවෙන් උත්පාදනය වන වේගය සංසිඳවා ගැනීමයි. මේ අරිය උත්තමයෙකුගේ සංසිඳවීම, සංසුන්කම, සම්මා දිට්ඨියට පත්වීම යන අරිය මාර්ගයේ ගමන් කිරීමයි.

## ධම්මානුපස්සනාව

ගත, හිත යන කොටස් දෙකක්ම එකතු කර "මමෙක්" සකස් කරගෙන මමෙක් ක්‍රියාත්මක වීමක් ජීවත්වීම යනුවෙන් හඳුන්වනු ලබයි. ගත හිත එකතු කිරීම සඳහා කරනු ලබන ක්‍රියාකාරකම් හා එකතුකර ගත් දේ දිගටම පවත්වා ගැනීමට දරණ උත්සාහයත් යන දෙකම දුක් විඳීමයි. යමෙකුගේ උත්සාහය තමන් කැමති සේ එයාට ප්‍රිය මනාප සේ තමන්ම හදාගත් ගත, සිත දිගටම පවත්වා ගැනීමයි. ඒ සඳහාම මේ සියලුම ක්‍රියාකාරකම් කරනු ලැබේ. මේ තත්ත්වය මුවහ කර ආවරණය කිරීම සඳහා ධර්මතාවයෙන්ම ක්‍රියාත්මක වන කාරණා පහක්ම ක්‍රියාත්මක වේ. මේ නිවන ආවරණය කරනු ලබන කාරණා පහ පංචකාම නීවරණ ධර්මයන් ලෙස ධර්මයේ හඳුන්වනු ලැබේ. නිවන, නිදහස සැපයයි. මේ සැපය ලැබීමට නොහැකි නීවරණ ධර්ම පහක්ම නිසයි. කාමච්ඡන්දය, ව්‍යාපාදය, ථීනමිද්ධය, උද්ධච්චය, අවිද්‍යාව මේ නිවන වසා සිටින පංචකාම නීවරණ ධර්මයෝයි.

ධම්මානුපස්සනාවේ පළමුවන පියවර එනම් මේ පංචකාම නීවරණ ධර්මයන් නිවැරදි ලෙසම තේරුම් ගෙන ඒවායින් වෙන් වී ඊට විරුද්ධ වූ යහපත් ධර්මතාවයත් තේරුම් ගෙන ඒවා භාවිතා කරන්නට පුරුදු වීමයි. කාමච්ඡන්දය වෙනුවට නෙක්ඛම්මයත්, ව්‍යාපාදය වෙනුවට මෙත් සිත පැතිර වීමත්, ථීනමිද්ධ වෙනුවට අලෝක සංඥාවත්, උද්ධච්චය වෙනුවට අවික්ඛේප සිත පැවැත්වීමත්, විචිකිච්චාව වෙනුවට හේතුඵල ධර්මයට බහා ගළපා බලා ක්‍රියා කරන්නට පුරුදු වීමත් සමඟම අවිද්‍යාවෙන් මිදී විරති තත්ත්වයට පත් වේ. මෙතැනත් මූලධර්මය "ආන පාන" මූලධර්මයමයි. එකක් ආශ්‍රය කරන විට අනික ප්‍රහාණය වීමේ මූලධර්මයයි.

නෙක්ඛම්ම සිතක් ආශ්‍රය කරන විටම කාමච්ඡන්දය ප්‍රහාණය වේ. මෙත් සිතක් ආශ්‍රය කරන විටම ව්‍යාපාදය, ද්වේෂය ප්‍රහාණය වේ. ''මම'' යන ලෝක සංඥාව අස්කර අලෝක සංඥාවක් මතු කරන විට ථීනමිද්ධය දුරු වේ. විසුරුණු සිත ඒකාග්ගතාවයට පත්වීමෙන් උද්ධච්චය දුරු වේ. හේතුඵල ධර්මයට බහා ගළපා බලා ක්‍රියාකරන්නට පුරුදු වීමත් සමඟම විචිකිච්චාවත් දුරු වේ. අවිද්‍යාවත් දුරුවේ. මෙතැනදී සිදු වන්නේ පංචකාම නීවරණ ධර්මයන්ම තාවකාලිකව යටපත් වීමෙන් ලබන සිතේ සමථ තත්ත්වයක් සහ ධ්‍යාන තත්ත්වයක් මිස සමුච්ඡේද වශයෙන් සිදු කරගත යුතු රාග, ද්වේෂ, මෝහ මුල් උදුරා දැමීමක් නොවේ. නිවන යනු සමුච්ඡේදනප්ප්‍රහාණයකි. එනම් රාග, ද්වේෂ, මෝහ ගති සහමුලින්ම උදුරා දමා නිදහස් වූ ප්‍රභාශ්වර තත්ත්වයකි. පළමුවෙන්ම රාග, ද්වේෂ, මෝහ ගති විෂ්කම්භණ වශයෙන් හා තදංගම වශයෙන් ප්‍රහාණය කිරීම පංචකාම නීවරණ ධර්මයන් සමථ තත්ත්වයට පත් කිරීමෙන් සිදු වේ. සමුච්ඡේද වශයෙන් නිස්සරණ වශයෙන් හා පටිපස්සදි වශයෙන්ම රාග, ද්වේෂ, මෝහ යන ගති තුනම සහමුලින්ම උදුරා දමන්නට නැවත නොඋපදින ලෙසම ගළවා ඉවත් කරන්නට උපකාර වන ප්‍රතිපදා මාර්ගය

ධම්මානුපස්සනාවෙන් පෙන්වා දුන් ත්‍රිලක්ඛණ භාවනාවයි.

මේ පංචකාම නීවරණ ධර්මයන් යම් කෙනෙකු තුළ ක්‍රියාත්මකවන තුරුම සැප සොයමින් ඉන්ද්‍රියයන් පිනවීම සඳහාම සිතේ බලාපොරොත්තු ඇති කර ගනී. නීවරණ ධර්මයන් ක්‍රියාත්මක නොවන්නට පටන් ගත් තැන් පටන් බලාපොරොත්තු කිසිවක්ම නැති නිසා කොතැනත් සැපයක් සේ දකී. ගහ මුලත්, රජ ගෙදරත් එක සේ දකී. දූන් කුණු ගොඩ කුණු ගොඩක් බව දකින නිසා කුණු පරිහරණය නොකරයි. සිතේ හටගත් කාමච්ඡන්දය නිසා තම සිත මත් වීමෙන්, රත් වීමෙන් හටගත් ශක්තිය නිසා බාහිර වස්තූන්, බාහිර අය, බාහිර දේ, බාහිර තැන් පරිහරණය කිරීම ආමිස සැපයයි. ඒ ඉන්ද්‍රියයන් පිනවීමකි.

කාමච්ඡන්දයෙන් තොරවූ රත්වීමෙන් තොරවූ මත්වීමෙන් තොර වූ නොඇලීම හා නොගැටීම බාහිර වස්තූන් උපාදානය කර නොගෙන පරිහරණය කිරීමට පමණක් පුරුදු වීම නෙක්ඛම්ම සිතක් පැවැත්වීමයි. මෙතනදී උපාදානයක් සිදු නොවේ. ලැබුණ දේ පමණක් පරිහරණය කරයි.

පෘථග්ජන පුද්ගලයෙකු මතු දුකින් නිදහස් වීමේ අදහසින්ම බලාපොරොත්තුවෙන්ම තව තවත් පංච උපාදානස්කන්ධයන්ම අල්ලා බදාගෙන උපාදානය කර තව තවත් කුණු එකතු කර ගැනීම නිසා සතුටු වේ. ''ජීවත් වීමයි'' යනුවෙන් හිතන්නෙ මේ කුණු එකතු කිරීමේම ක්‍රියාවලියක නිරත වීමයි. මේ මුළා පදනම මත පිහිටා හැම පෘථග්ජන පුද්ගලයෙකුම මේ තරම් දීර්ඝ කාලයක් අතීත සංසාරයේ ක්‍රියා කරනු ලැබීය. පංචකාම නීවරණ ධර්මයන් සියල්ලම තමන්ගේ සිතේ කැමැත්තෙන්ම උපාදානය කරගැනීමට ක්‍රියාත්මක කරවන යම් වටිනාකමක් ඇතැයි යනුවෙන් හිතා අල්ලා, බදාගන්නා බදාගත් කුණු ගොඩකි. මෙසේ අතීතයේදී අල්ලා බදාගත් තමා සතු කුණු ගොඩවල් සියල්ලම ආපසු තමන්ටම බරක් බවට පත් වේ. බැම්මක් ලෙසින් ඒවාටම බැඳේ. ඒවා තමන්ට නැති වේ යන භයකුත් ඇති වේ. මේ බැම්ම, මේ බර, මේ භය උපාදානයට කලින් දැක ගැනීමට නොහැකි වීම පංචකාම නීවරණ ධර්මවලට බැඳී පංචස්කන්ධයම උපාදානය කර ගැනීමට හේතු විය. හැම පෘථග්ජන පුද්ගලයෙකුම උත්සාහ කරන්නේම තව තවත් අලුත් අලුත් දේ හැකිතාක් අල්ලා ගෙන තමන්ගේ ගොඩම ලොකු කරගෙන සතුටු වීමටයි. සංසාර ගමනට නියත වශයෙන්ම මුල් වන, නිදාන වන, හේතු ප්‍රත්‍ය වන කාරණය මේ සත්‍යය ධර්මය නොදැනීමයි. නොදැකීමයි.

නිරාමිස සුවය, නිරාමිස ප්‍රීතිය, නිරාසව සුඛය, නිරාසව ප්‍රීතිය යනුවෙන් සුවයක් ප්‍රීතියක් මිනිසෙකුට මේ මිනිස් ජීවිතය තුළදීම ලබාගත හැකියි. මේ සුවය සැපය දුකෙන් මිදී නිදහස් වීමේ සුවයයි. ප්‍රීතියයි. දුකක් නැතිකම මෙතැන සුවයයි. සැප සොය සොයා, සැප හඹා ගොස් ඉන්ද්‍රියයන් පිනවීම ආමිස සුවයයි. ආමිස ප්‍රීතියයි. එය ආසව සහිතයි. ආසව මිශ්‍ර සුවයකි. කාමාසව, භවාසව, දිට්ඨාසව, අවිද්‍යාසව සහිත සුවය ආමිස සුවයයි. ආමිස ප්‍රීතියයි. ඉන්ද්‍රියයන් පිනවීමෙන් යමෙකු ලබන මේ ආමිස ප්‍රීතිය, ආමිස සුවය සිතක පවතින්නේ මොහොතක් පමණි. තමන් කොතරම්ම කැමති වුණත් මේ ආමිස සුවය මොහොතකින්ම වෙනස් වී යයි. විපරිණාමයට පත්වෙයි. නමුත් නිරාමිස සුවය, නිරාමිස ප්‍රීතිය දුකින් මිදී නිදහස් වීමේ සුවය, ප්‍රීතිය එසේ වෙනස් නොවේ. අතහැර මිදී නිදහස් වීම

සදාකාලිකයි. නිවන් සුවය යනු මෙයයි.

ඉන්ද්‍රියයන් පිනවීමෙන් පෘථග්ජන පුද්ගලයෙකු ලබා ගැනීමට බලාපොරොත්තු වන සැපය එක දිගටම පවත්වා ගන්නට නොහැකි වන්නා වූ ධර්මතාවක්, ධර්ම ස්වභාවයක් ලෝකයේ පවතී. ලෝකය යනු වෙනස් වන විපරිණාමයට පත්වන ගෙවී විනාශ වී යන දේවල් සමූහයකි. ලෝකය හදා ගනු ලැබුවේත් ඒ ඒ පුද්ගලයාම තමන්ගේම හිතෙනි. මෙසේ සිතින් සදාගත් සිතින්ම පවත්වා ගැනීමට උත්සාහ දරණ ලෝකය පිළිබඳව ඇත්ත නොදන්නාකම නිසාම පුද්ගලයෙකු දුක් විඳී. ලෝකය තුළ අතරමං වී අනාථ වේ. හැම පුද්ගලයෙක්ම පෘථග්ජන තත්ත්වයෙන් කටයුතු කරන තාක් කල් "නිච්ච සුඛ අත්ථ" ලෝකයක් හදා ගැනීමටත් නිච්ච සුඛ අත්ථ ලෝකයක් පවත්වා ගැනීමටත් නිරන්තරවම උත්සාහ දරති.

"නිච්ච සුඛ අත්ථ" යනු යම් කෙනෙකුගේ හිතකම මතුවන හිතකම පවතින ගති තුනකි. දුක, සැප යනුද හිතකම උපදින ගති දෙකකි. යමෙක් සැප විඳීමේ කැමැත්තෙන් යම්කිසි ක්‍රියාවක් කරයි නම් ඒ ක්‍රියාව කිරීමෙන් දිගින් දිගටම ඒ සැප විඳීමටත් බලාපොරොත්තු වේ. ඒ සැපය විඳීමට තමන්ම බලාපොරොත්තු වන නිසා එතැනදී "නිච්ච සුඛ අත්ථ" සඤ්ඤාවන් තමන්ගේම හිතේ පහළ වේ. ඒ මිස බාහිර ලෝකයක "නිච්ච සුඛ අත්ථ" සඤ්ඤාවන් බිහි නොවේ. ඒ ඒ පුද්ගලයාටම පෞද්ගලික වූ ආත්මීය වූ අභ්‍යන්තර ස්වභාවය, මේ "නිච්ච සුඛ අත්ථ" පදවලින් විග්‍රහ වන ධර්මතාවයයි.

කර්ම නියාමය, ධර්ම නියාමය, චිත්ත නියාමය, ඍතු නියාමය, බීජ නියාමය යන පංච නියාම ධර්මයන් මේ විශ්ව ශක්තියෙන් ක්‍රියාත්මක වෙන නිසාත් මේ නියාම ධර්ම කාටත් පොදු, කාටත් සාධාරණ ඒවා නිසාත් මේ නියාම ධර්ම වෙනස් කිරීමේ හැකියාවක් කිසිම ජගතෙකුට නැත. බුදුපියාණන්වහන්සේට හෝ මහා බ්‍රහ්මයාටවත් ඒවාට පිටුපා ක්‍රියා කිරීමේ ශක්තියක් බලයක් නැත. මේ නියාම ධර්මයන් ක්‍රියාත්මක වන තුරු සිතක මතුවන "නිච්ච සුඛ අත්ථ" ස්වභාවය ඒ ආකාරයෙන්ම කැමැත්ත පරිදි පවත්වා ගන්නටත් නොහැකියි. තමන් කැමති වූ, තමන්ගේ සිතේ කැමැත්ත පරිදි සකස් කරගත් තමාගේ ලෝකය තමන්ට රිසි පරිදි, මනාප පරිදි, එක දිගටම පවත්වා ගැනීමට හැම පෘථග්ජන පුද්ගලයාම උත්සාහ ගනී. මේ අයුරින් නිච්ච සුඛ අත්ථ ලෝකයක් පවත්වා ගන්නට දරණ උත්සාහය නියාම ධර්මවලට විරුද්ධ නිසා තමන්ගේ ඇස් පනාපිටදීම වෙනස් වී විපරිණාමයට පත් වී තමන්ගේ කැමැත්තට වෙනස් වූ ලෝකයක් උරුම වීම දුක උරුම වීමයි.

"නිච්ච සුඛ අත්ථ" යන තමන්ගේම සිතේ හටගත් වැරදි දෘෂ්ඨිය තේරුම් ගෙන නියාම ධර්මයන්ද තේරුම් ගෙන තමන්ගේ හිතේ කුමන ආකාරයේ සිතුවිල්ලක්, අරමුණක් බිහි වුණත් ඒ අරමුණ තමන් කැමති සේ එක දිගටම පවත්වා ගන්නට හැකි එකක් නොවන බව සහතික ලෙසම තේරුම් ගෙන තමන්ගේ හිතින් ඒ සියල්ලම උපේක්ඛාවෙන් ඉවසා විමසා දරා ගත හැකි තත්ත්වයට තම සිතම හදා ගැනීම කළයුතු වන එකම පිළියමයි. තමන්ගේම සිත නිවැරදි කරගන්නට උත්සාහ දරනවා වෙනුවට බාහිර ලෝකය තමන්ගේ සිතට ගැළපෙන ලෙසින් සකස් කරන්නට, පවත්වා ගන්නට උත්සාහ දැරීම සියලුම ආකාර වූ දුක් දොම්නස් උපායාස සිත් තුළ බිහි වීමට මුල් වන්නා වූ එකම හේතුවයි. මේ

අයුරින් ක්‍රියා කරන්නේ නොදනුවත්කම නිසයි. අවිද්‍යාව නිසයි. අවිද්‍යාවෙන් කටයුතු කරන්නේ තණ්හාව නිසයි.

යම් පුද්ගලයෙකුට "නිච්ච" සංඥාවක් තමන්ගේ හිතේ හටගත් විගසම එහි "අනිච්ච" බව මෙනෙහි කර ඇත්ත ඇති ආකාරයට දැක ගත හැකි නම් ඔහු ජයග්‍රහණය ලබා ගනී. තමන් මොන තරම් උත්සාහ දැරුවත් තමන්ගේ සිතේ මොන තරම් ප්‍රිය මනාප බවක් පැවතුණත් ඒ ප්‍රිය මනාප වූ බාහිර ලෝකය තමන්ට කැමති සේ, මනාප සේ, රිසි සේ එක දිගටම පැවැත්වීමට හෝ නැවැත්වීමට හෝ නොහැකි බව සහතික වශයෙන්ම අවබෝධ කර ගැනීමට "අනිච්ච" බව යථාපරිදි අවබෝධ කර නිච්ච බව, නිච්ච සංඥාව තමන්ගේ සිතින්ම ඉවත් කරගත යුතුයි.

"නිච්ච" "අනිච්ච" යන ගති දෙකම තම තමන්ගේම සිත තුළම ක්‍රියාත්මක වන ගති දෙකකි. "පටිච්ච" වීමෙන් තොරව සිතක් තුළ "නිච්ච සංඥාවක්" බිහි නොවේ. අනිච්ච අනුපස්සනා කර තේරුම් ගත යුත්තේ "පටිච්ච" වීම නවතා දැමීමටයි. පටිච්ච වීම යනු ප්‍රිය දේට ඇලීම හා අප්‍රිය දේට ගැටීම යන ගති දෙකයි. "පියේහි විප්පයෝගෝ, අප්පියේහි සම්පයෝගෝ" යන දෙකමත් පටිච්චවීම නිසා උරුම වන ඵල විපාකයෝයි. ප්‍රිය දේට අන්තවාදී ලෙස අලුණේ නැත්නම් අප්‍රිය දේ සමග ගැටුණේ නැත්නම් "පටිච්ච" වීම සිදු නොවේ. "නිච්ච සංඥාවත් දුරු වේ. ඒ සඳහා, "අනිච්ච" බව ප්‍රත්‍යක්ෂ කර අවබෝධ කරගත යුතුමයි. අනිච්චානුපස්සනාව යනු මේ අර්ථයයි. එසේනම් විපස්සනා භාවනාවකින් අනුපස්සනා භාවනාවකින් අවබෝධ කර ගැනීමට උත්සාහ ගත යුතු වන්නේ තම තමන්ගේම සිත්වල මෙතෙක් ක්‍රියාත්මක වෙමින් පැවති ගතියක් වූ "නිච්ච සුඛ අත්ථ" සංඥාවන් ප්‍රහාණය කර "අනිච්ච, දුක්ඛ, අනත්ථ" යන යථා තත්ත්වය යථාභූත ඥාණයෙන් ප්‍රත්‍යක්ෂ කර ගැනීමටයි.

"සබ්බේ සංඛාරා අනිච්චාති
සබ්බේ සංඛාරා දුක්ඛාති
සබ්බේ ධම්මා අනත්ථාති
යදා පඤ්ඤාය පස්සති
අථ නිබ්බිංදති දුක්ඛෙ
ඒස මග්ගෝ විශුද්ධියා"

යන මේ විග්‍රහයෙන් ඉතාමත්ම පැහැදිළිව සරළව මේ නියත ධර්මතාව විග්‍රහ කර පෙන්වා දී ඇත.

නියාම ධර්මයන් කාටත් පොදු, සර්ව සාධාරණ නිසා "සංඛාර" අනිච්ච විය. සංඛාර දුක්ඛ විය. සංඛාර යනු (සං+ඛාර) රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් එකතු කර හදාගත් සංඛත යන අර්ථයයි. මේ ආකාරයට රාග, ද්වේෂ, මෝහ ගති නිසා තමාම එකතු කර හදාගත් ඵලය සංඛතයි. සංඛත තමන් කැමති සේ පැවැත්විය නොහැකියි. තමන් කොතරම් කැමති වුණත් හිතින්ම එකතු කර හිතින්ම හදාගත් සංඛත තමන්ට කැමති සේ පවත්වා ගැනීම හෝ නවත්වා ගැනීම හෝ කළ නොහැකියි. ඒ බව ප්‍රත්‍යක්ෂ කර තමන්ම අවබෝධ කර විරාග අනුපස්සනා කිරීමෙන් රාග සංඥාව ප්‍රහාණය කිරීමත්, නිරෝධ අනුපස්සනා කිරීමෙන් සමුදය සංඥාව ප්‍රහාණය කිරීමත්, පටිනිස්සග්ගානුපස්සනාව කිරීමෙන්

උපාදානය කිරීමේ ක්‍රියාවලියෙන් වෙන්වී සබ්බූපදි පටිනිස්සග්ග කිරීමත් ධම්මානු පස්සනාව වැඩීමයි. සබ්බ - උපදි යනු තමන් සංසාර ගමනේදි සාරයි යනුවෙන් උපාදානය කරගත් සියලු ගති (රාග, ද්වේෂ, මෝහ) තමන් තුළම ක්‍රියාත්මකව පැවතීමයි. මේ ගති සියල්ලම තමා තුළම පැවතීම නිසා තමන්ට දුක් උරුම කර දේ. තමන්ව සංසාරයේ නැවත නැවතත් අනාථ තත්ත්වයටම පත්කරයි. මේ නිසා මේ කෙළෙස් ගති තුන තමන්ගේ ම චිත්තසංථානයෙන් උදුරා දමා සහමුළින්ම ඉවත්කර දමා නිදහස් වීම "පටිනිස්සග්ග" කිරීමයි. "පටිච්ච, න පටිච්ච'' යන තත්ත්වයට පත්කර ගැනීමෙන් මෙය සිදු කරගත හැකියි. "ඛණ, ඛය, ඛීණා" යන පද තුනත් මෙතැනදි නිවැරදිවම විග්‍රහ කර තේරුම් ගත යුතුයි .

| | | | | |
|---|---|---|---|---|
| ඛණ | - | ත්‍රිලක්ඛණ | - | ඛණ සම්පත්තියයි |
| ඛය | - | ආසවක්ඛය | - | රාගක්ඛය, ද්වේෂක්ඛය, මෝහක්ඛය, අනුසයක්ඛය |
| ඛීණ | - | ඛීණං පුරාණං, ඛීණා ජාති, ඛීණාශ්‍රවයන්වහන්සේ | | |

ඛණ, ඛය, ඛීණා යන පද තුනම අතීත වර්තමාන හා අනාගත කාලත්‍රය දක්වන එකම අර්ථයක් ඇති පදයි. මේ පදවල තේරුම "සහමුළින්ම ගළවා ඉවත් කළ යුතු ගති" යන්නයි. සමුච්ඡේදනප්පහාණය ලෙසද මෙය අර්ථ ගැන්වේ. මේ ආකාරයට සමුච්ඡේදනප්පහාණය කළ යුතු වන්නේ පෘථග්ජන පුද්ගලයෙකුගේම හිතේ ගබඩා වී පවතින රාග ගතිය, ද්වේෂ ගතිය හා මෝහ ගතිය යන ගති තුනමයි. රාගක්ඛයෝ නිබ්බානං, ද්වේෂක්ඛයෝ නිබ්බානං, මෝහක්ඛයෝ නිබ්බානං යනුද මේ සත්‍යයයි.

ආසවක්ඛය කිරීම සඳහාත් ඥාණයක් අවශ්‍යයි. ආසවක්ඛයා ඥාණය යනු එයයි. ආසව කොටස් හතරක්ම විග්‍රහ කර ඇත. කාමාසව, භවාසව, දිට්ඨාසව, අවිජ්ජාසව එම ආසව වර්ග හතරයි. මේවා ගති හතරකි. කය රමණය කිරීමේ, ඉන්ද්‍රියයන් පිනවීමේ ආසාව, කැමැත්ත කාමාසව යනුවෙන් විග්‍රහ වේ. යම් යම් ''බවට'' පත්වීමේ කැමැත්ත ධනවත් බව, කුලවත් බව, රූපවත් බව, නිලවත් බව, උගත් බව ආදී සියල්ල භවාසව නිසාම මතුවන ගතියකි. දිට්ඨාසව යනු මම යන, මගේ යන, අස්මිමානය නිසා මතුවන දෘෂ්ඨීන්ය. ඒවා සිතේ පවතින ගතියි. අවිජ්ජාසව යනු ඇත්ත සත්‍යය දැක ගැනීමට නොහැකි වීමයි. සම්මතය විද බැලිය නොහැකි අවිද්‍යාසව නිසයි.

මේ ආසව සහමුළින්ම ගළවා ඉවත් කරන තුරාවටම පෘථග්ජන පුද්ගලයෙකුගේ ලෞකික සැප විඳීමේ බලාපොරොත්තුද තම චිත්තසංථානය තුළින්ම මතු වේ. නිරාමිස සැපය යනු නිරාසව සුවයමයි. දුක් නැතිකම යන නිරාමිස සැපය කිනම් ආකාරද යන්න මෙවැනි පෘථග්ජන මිනිසෙකුට තේරුම් ගත නොහැකියි. පෘථග්ජන පුද්ගලයා සොයන්නේම ලෞකික වශයෙන්ම යම් වටිනා දෙයක්, සාරවත් දෙයක් ප්‍රිය මනාප දෙයක් එකතු කර උපාදානය කර ලබන්නා වූ තාවකාලික සැපයක්ම පමණි. මේ සැපය ආමිස සැපයකි. මේ සැපය ආසව සැපයකි. ලෞකිකත්වය තුළින්ම ලබාගත හැකි තාවකාලික එකකි. යමක් උපාදානය කර ගැනීමෙන් ලබන සැපයකි. ගිහියා හෝ පැවිද්දා හෝ යනුවෙන් වෙනසක්ද මෙහි නොවේ. හොඳ, යහපත්, නිවැරදි ප්‍රිය ලෝකයක් තුළින් යම් සැපයක් බලාපොරොත්තු වේ නම් ඒ සියල්ලම ආමිස සැප මිස නිරාමිස සැප නොවේ. සෑම ආමිස සැපයක්ම උපාදානය කරගැනීමේ ප්‍රතිඵලය දුකක් උරුම වීමයි.

ධම්මානුධම්ම ප්‍රතිපදාවේ පිහිටා ධම්මානුපස්සනා කිරීම යනු අවබෝධයෙන්ම කරගත යුතු දෙයකි. යථාවබෝධයක්, සත්‍යාවබෝධයක් නැති තැනක, නැති කෙනෙකුට, ධම්මානුධම්මපස්සනාවෙහි යෙදීම යන භාවනාව කරගත නොහැකියි.

තමන් ළඟ ඇති, තමන්ටම අයිති, තමන්ට පමණක්ම පාලනය කරගත හැකි තමන්ගේම ඇස, කන, නාසය, දිව, කය, මන යන ඉන්ද්‍රියයන් හය පාලනය කර ගැනීමට උත්සාහ නොගෙන බාහිර ලෝකයා හදන්නට, පාලනය කරන්නට තමන්ට ගැළපෙන පරිදි බාහිර ලෝකය පවත්වා ගන්නට උත්සාහ කිරීම නිසා සියලුම පෘථග්ජන මිනිසුන් දුක් විඳිති. විඳින තරමක් සියලුම ආකාර වූ දුක් විඳින්නේම කළයුතු දේ නොකර නොකළ යුතු දේ කිරීමට උත්සාහ දැරීමේ ප්‍රතිඵලයක් ලෙසයි. මෙයට හොඳ උදාහරණයක් නම් රටේ පාලකයා, රජතුමා නුවර ඇවිදින විට පාරේ ඇති ගල් තමන්ගේ කකුලේ ඇණෙන නිසා මුළු රටේම පාරවල් කාපට් එලීමට නියෝග දෙනවා හා සමාන ක්‍රියාවකි. තමන්ගේ කකුලට සපත්තු දෙකක් දමා කකුලේ ගල් ඇනීම වළක්වා ගන්නවා වෙනුවට කළ නොහැකි දෙයක් කිරීමට නියෝග කිරීමත් මේ ක්‍රියාව හා සමානයි. තමා ළඟම ඇති තමන්ගේම ගති තුනක් වෙනස් කර නොගෙන ලෝකයාගේ ගති වෙනස් කිරීමට උත්සාහ දැරීම අනුවණ ක්‍රියාවකි. ඒ අනුව සියලුම පෘථග්ජන ලෝකයා හදන්නේම තමන්ට ප්‍රිය මනාප වූ තමන්ගේ කැමැත්තට ගැළපෙන පරිද්දෙන් ලෝකයක් හදාගෙන එවන් ලෝකයක්ම පවත්වාගෙන යෑමටයි. දුක උරුම වන්නේම මේ "නිච්ච" ලෝකයක් පවත්වන්නට යාම නිසාමයි. යම් කෙනෙකුට මේ සත්‍යය ධර්මතාවය මේ ධර්ම ඥාණය ලැබුණොත් එදාට තමන්ටම මේ ගති පවතින්නේ තමන් ළඟම බවත් මේ ගති වෙනස් කර ගත හැකි තමන්ටම බවත් දැක ගනී. මේ ගති වෙනස් කර ලෝකය දෙස උපේක්ඛා සිතින් බැලීමට පුරුදු පුහුණු වුවහොත් එතැන නිවනයි. එතැන නිදහසයි. මම කැමති ආකාරයට, මගේ කැමැත්ත හා මනාපය පරිද්දෙන් පවත්වන්නට හැකි ලෝකයක් නැති බවත් මම, මගේ හිත වෙනස් කර ගත යුතු බවත් දැක ගනී. මේ ලෝකයේ නියත ස්වභාවය, තමන්ගේ හිතේ මනාපයට රිස්සට කැමැත්තට ලෝකය පවත්වන්නට උත්සාහ දරණ තාක්කල් ලෝකය වෙනස් වී විපරිණාමයට පත් වී හිත දෙවැනි වේෂයකට පත් වී දුක්ම උරුම කර දීමයි.

මේ සත්‍යය අවබෝධ කර ගැනීම "අනිච්ච, දුක්ඛ, අනත්ථ" යන ත්‍රිලක්ඛණය යථාපරිදි අවබෝධ කරගැනීමයි. තමන්ගේම හිතේ හටගන්නා "නිච්ච" සංඥාව ප්‍රහාණය කරගන්නා තුරුම අනිච්ච අනුපස්සනා කර අවබෝධ කරගත යුතුයි.

1. තමන්ගේ සිත යම් ප්‍රිය අරමුණකට බැඳීම නිසා කාමච්ඡන්දයක් උත්පාදනය වේ නම් කාමච්ඡන්දයෙන් සිත කිළිටි වේ නම් එම කාම අරමුණ කෙරෙහි වූ කැමැත්ත යථාපරිදි තේරුම් ගත යුතුයි.
2. කාමච්ඡන්දයක් නොඉපදුණොත් සිතේ මත්වීමක්, රත්වීමක් නොවන නිසා එවන් සිතක් පැවතීමත් තේරුම් ගත හැකි විය යුතුයි. මේ සිත් දෙකේම වෙනස වෙන්කොට දැකගත යුතුයි.
3. කාමච්ඡන්දය උපදින ආකාරයේ සිතක් නම් කාමච්ඡන්දය ප්‍රහාණය කිරීමෙන් සිත සමථයට පත්කර ගැනීමට හැකි බවත් තේරුම් ගත යුතුයි.

4. කාමච්ඡන්දය ප්‍රහාණය කළ සිතක ඉන්ද්‍රියය ධර්මයන් මිස ආයතන ලෙසින් ඒවා ක්‍රියාත්මක නොවන බවත් තේරුම් ගත හැකි විය යුතුයි.

සංඛාර සිත් ක්‍රියාත්මක වීමෙන් වැළකී සිට ක්‍රියා සිත් පමණක් ක්‍රියාත්මක කිරීමට දැන් පුරුදු පුහුණු විය යුතුයි. ව්‍යාපාදය, ථීනමිද්ධය, උද්ධච්චය, විචිකිච්චාව ආදී අනෙකුත් නීවරණ ධර්මයන් කෙරෙහිත් මේ ආකාරයෙන්ම පැවතිය යුතුයි.

මේ කායානුපස්සනාව වැඩීමයි. වේදනානුපස්සනාව වැඩීමයි. චිත්තානුපස්සනාව වැඩීමයි. සිත සමථයට පත් කර ගැනීමම කාය පස්සදිය මගින් චිත්ත පස්සදියට පත්වීමයි. මෙයම චේතෝ විමුක්තියට පත්වීමයි. මේ අනුව ධම්මානුපස්සනාව වැඩීම සඳහා සිත තුළම සුදුසු පරිසරයක් සකස් වේ. ඒ අනුව නිච්ච සංඥාව දුරු කිරීම සඳහා අනිච්චානු පස්සනාව වැඩීමත්, සුඛ සංඥාව ප්‍රහාණය කිරීම සඳහා දුක්ඛානුපස්සනාව වැඩීමත්, අත්ත සංඥාව (අස්මිමානය) දුරු කිරීම සඳහා අනත්ථානුපස්සනාව වැඩීමත් යථාවබෝධයෙන්ම කළ යුතුයි.

ඇහැට ප්‍රිය හෝ අප්‍රිය රූපයක් හෝ කෙරෙහි පටිච්ච වී "සං උත්පාදනය" වේ නම් වහාම ඒ ක්‍රියාවේ වේගය සංසිඳවීම සඳහා "රූපං අනිච්චා, දුක්ඛා, අනත්ථා" යනුවෙන් මෙනෙහි කර සමුදය බිහිවීම නවත්වා ක්‍රියාවේ වේගය නිරෝධ කල යුතුයි. නිරෝධ කිරීම (නිර්උදා) අනුත්පාද යන තේරුමයි. එයම විඤ්ඤාණ ශක්තිය උත්පාදනය වීම නැවැත්වීම, නිරෝධ කිරීම යනුවෙන් අර්ථ දක්වා ඇත. "උප්පාදෝ දුක්ඛං අනුප්පාදෝ සුඛං" අනුප්පාදය යනු නිරෝධයමයි.

ඇස, කන, නාසය, දිව, කය, මන යන තමන්ගේ ඉන්ද්‍රියයන් හය බාහිර රූප, ශබ්ද, ගන්ධ, රස, පහස හා මතක සටහන් සමඟින් බැඳීම, ඇලීම, ගැටීම, පටළැවීම ක්‍රියාත්මක වන ආකාරය දැන් තමන්ටම පැහැදිළි ලෙසම දැන හඳුනා ගැනීමට හැකියාව ලැබේ. "පජානාති" යනු මේ දැන හඳුනා ගැනීමේ හැකියාව විග්‍රහ කිරීම සඳහා යොදා ගත් පදයයි.

"පුන ච පරං භික්ඛවේ භික්ඛු ධම්මේසු ධම්මානුපස්සී විහරති ඡසු අජ්ඣත්තික බාහිරේසු ආයතනෙ සු.... චක්ඛුං ච පජානාති, රූපේ ච පජානාති. යං ච තදුභයං පටිච්ච උප්පජ්ජති සංයෝජනං තං ච පජානාති."

"පජානාති" යන උසස් මට්ටමේ දැනුම ඇත්තේ සතිපට්ඨානය පුරුදු වූ සතියෙන් කටයුතු කරන කෙනෙකුට පමණි. මෙය හේතුඵල ධර්මයට බහා ගළපා බලා කටයුතු කිරීමයි.

"යථා ච අනුප්පන්නස්ස සංයෝජනස්ස උප්පාදෝ හොති තඤ්ච පජානාති" "යථා ච පහීනස්ස සංයෝජනස්ස ආයතිං අනුප්පාදෝ හෝති තඤ්ච පජානාති"

අනුප්පන්නස්ස යනු ක්‍රියාවේ වේගයෙන් ශක්තියක් ඉපදීම නැවැත්වූවා යනුයි. ''සංයෝජන උප්පාදෝ හෝති '' යනු සංයෝජන උත්පාද වන ශක්තියත් අහෝසි වේ යන අර්ථයයි. ඒ අනුව ක්‍රියාවේ වේගය සංසිඳීමෙන්, අනුප්පාද වීමෙන් සහමුළින්ම ප්‍රහාණය වීමෙන් සංයෝජන දුරු වේ. අනුසය ඛය වේ.

මේ ආකාරයට ඉන්ද්‍රියයන් සංවර කර ගැනීමෙන් ක්‍රියාවේ වේගය පාලනය කර ගැනීමෙන් සතර සතිපට්ඨානයෙහි පිහිටා ක්‍රියා කිරීමට දිගින් දිගටම සිත පුරුදු කර ගැනීමෙන් "අනිච්ච දුක්ඛ අනත්ථ" අනුපස්සනා කිරීමෙන් "නිච්ච සුබ අත්ථ" සංඥා ප්‍රහාණය කිරීමෙන් ක්‍රමානුකූලව සත්ත බොඣංග සම්පූර්ණ වීමට ආරම්භ වේ. මෙතැනදී සිදු වන්නේ රාග, ද්වේෂ, මෝහ යන කිළිටි ශක්ති උත්පාදනය වීම අනුප්පාද තත්ත්වයට පත්වීමයි. සත්ත බොඣංග සම්පූර්ණ වීම යනු යම්කිසි දෙයක් එකතු කර ගැනීමක් නම් නොවේ. තමා තුළම මෙතෙක් ගබඩා කරගෙන තිබූ ශක්ති විශේෂයක් මත්වීමේ ශක්ති විශේෂයක් ක්‍රමයෙන් හත් අවස්ථාවකදී ප්‍රහාණය කර අනුප්පාද තත්ත්වයටම සිත පත් කර ගැනීමකි. මේ ප්‍රහාණය කිරීම අවබෝධයෙන්ම සිදුවන්නකි.

මේ ආකාරයට දිගින් දිගටම සතර සතිපට්ඨානයේ පිහිටා ක්‍රියා කිරීම මඟින් විශේෂයෙන් ධම්මානුපස්සනාව යථා පරිදි තේරුම් ගෙන,

1. අනිච්චානුපස්සී අස්සසිස්සාමීති සික්ඛති
   අනිච්චානුපස්සී පස්සසිස්සාමීති සික්ඛති
2. විරාගානුපස්සී අස්සසිස්සාමීති සික්ඛති
   විරාගානුපස්සී  පස්සසිස්සාමීති සික්ඛති
3. නිරෝධානුපස්සී අස්සසිස්සාමීති සික්ඛති
   නිරෝධානුපස්සී පස්සසිස්සාමීති සික්ඛති
4. පටිනිස්සග්ගානුපස්සී අස්සසිස්සාමීති සික්ඛති
   පටිනිස්සග්ගානුපස්සී පස්සසිස්සාමීති සික්ඛති

යන භාවනා කර්මස්ථානයන් යථාවබෝධයෙන්ම බහුලවම භාවිතකර "නිච්ච සුබ අත්ථ" සංඥාවන් හතර වරකදීම ප්‍රහාණය කල යුතුයි. මේ සතර අවස්ථාවන්හි සතර මඟ සතර ඵලයන් සම්පූර්ණ වේ. සත්තිස් බෝධිපාක්ෂික ධර්මයන්ම සම්පූර්ණ වන්නේ සතර සතිපට්ඨාන භාවනාව දිගටම ප්‍රායෝගිකවම කිරීමෙන් මිස වෙනත් කිසිම ආකාරයකින් නොවන බවත් තේරුම් ගත යුතුයි.

ජීවත් වීමේදී ජීවිතයක් පවත්වාගෙන යෑමට දරණ උත්සාහයන් නිසා ලබන එකම ප්‍රතිඵලය දුක් විඳින්නට සිදුවීම බව හේතු සහිතවම යථා පරිදිම වැටහුණු විට මේ ජීවත් වීමෙන්ද ගැළවීමේ අවශ්‍යතාවයක් තමාටම ඇති වේ. මේ පැවැත්ම අපැවැත්මක් බවට පත්කර ගැනීම සඳහා ක්‍රමයක් සෙවීමට උත්සුක වේ. මෙය කළකිරීමක් නොවෙයි. අවබෝධයකි. කළකිරීමෙන් ඇති වන්නේ ද්වේෂයකි. සැනසීමක් ලබා ගත යුත්තේ අවබෝධයෙනි. දුක්ඛ අරිය සත්‍යය, සමුදය අරිය සත්‍යය, නිරෝධ අරිය සත්‍යය, නිරෝධ ගාමී මාර්ග අරිය සත්‍යය යන චතු අරිය සත්‍යයන් මේ පැවැත්ම තුළින්ම තමන්ම යථාපරිදිම අවබෝධ කරගත යුතු දේ මිස කළකිරීමෙන් ලබාගත හැකි දේ නොවෙයි.

මේ අනුව සතර සතිපට්ඨාන භාවනාව පුරුදු කරගැනීමත් සමඟම හේතුඵල ධර්මයට බහා ගළපා බලා සතියෙන් යුතුව සතියෙහි පිහිටා කටයුතු කරන්නට පුරුදු පුහුණු වීමත් සමඟම හිතට, හැඟීමට වහල් වී සැප හඹා යමින් මෙතෙක් කාලයක් ප්‍රිය දේට

ඇළීමෙන් හා අප්‍රිය දේට ගැටීමෙන් ක්‍රියා කිරීමෙන් උපාදානය කරගත් විඤ්ඤාණ ශක්තිය දුක උපේක්ඛා සිතින් ඉවසා විමසා ක්‍රියාකර විඤ්ඤාණ ශක්තිය අනුත්පාදෝ යන තත්ත්වයට පත්කර ගැනීමේ හැකියාව ලැබේ. හේතුවකින් තොරව ඵලයක් උරුම නොවන බවත් හේතුවක් කොතරම්ම ප්‍රිය මනාප වුවද ඉන් උරුම වන ඵලය අයහපත් නම් ඒ ඵලය තමන්ටම දුක උරුම කර දෙන බවත් හේතුව මොනතරම් අප්‍රිය වුවද අමාරු වුවද ඉන් උරුම වන ඵලය යහපත් නම් ඒ ඵලය තමන්ට සැප උරුම කර දෙන බවත් දැන් යථාපරිදි තමන්ටම අවබෝධ කරගන්නටත් හැකියාව ලැබේ.

තමන්ටම පීඩාවක් නොවන ආකාරයට තමන්ටම පළිබෝධයක් නොවන ආකාරයට තමන්ගේම ජීවිතය පරිහරණය කළයුතු බව දැන් ඒ පුද්ගලයාම අවබෝධ කරගනී. මේ ලෝක ධාතුවේ ජීවිත පවත්වන වෙනත් කිසිම කෙනෙකුට හෝ තවත් බාහිර පුද්ගලයෙකුට හෝ මේ නිවන ප්‍රායෝගිකවම තමන්ටම අත්පත් කර දිය නොහැකි බවත් දැන් අවබෝධ වේ. බුදුපියාණන්වහන්සේ බුද්ධ ධර්මය දේශණා කර වදාළේ මිනිසුන්ට හිතන්නට ඉගැන්වීම සඳහායි. යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කිරීමට මිනිසුන්ට මඟ පෙන්වා දීම සඳහායි.

පුද්ගලයෙකුට කේන්ති යෑම, තරහා යෑම, රෞද්‍ර වීම යනු එම පුද්ගලයා අසරණ වීමකි. එනම් ඔහු විසින් දරූ මතය කඩා වැටීම ඔහුට දරා ගැනීමට නොහැකි වීම නිසා කෑ මොර දීමට, බැණීමට පෙළඹී තමන්ගේ වේදනාව පිට කර සැනසීමට උත්සාහ දරයි. යථාවබෝධයෙන් ක්‍රියා කරන කෙනෙකු දැන් එසේ තරහින්, වේදනාවෙන් කෑ මොර දෙන කෙනෙකුගේ ක්‍රියාව කෙරෙහි ප්‍රතික්‍රියාවක් නොදක්වයි. ''අජ්ඣත්තාවා බහිද්ධාවා කායේ කායානුපස්සී විහරති" යනුවෙන් පෙන්වා දුන්නේ මෙයයි.

පෘථග්ජන පුද්ගලයාය යනු සිත දූෂණය වූ නරක ගති ඇත්තෙකි. රාග ගති, ද්වේෂ ගති, මෝහ ගති ලෙස හඳුන්වන නරක ගතිගුණ තමන් තුළ ඇති බව හෝ පෘථග්ජන පුද්ගලයා නොදනී. මේ බව නොදන්නාකම නිසා නරක දේ පරිහරණය කර ඔහුගේම සිත දූෂණය කර නැවත නැවතත් මෝහයෙන් මනස මුවහ කර ගැනීම තමන් විසින්ම කර ගනී. මේ තමන් තමන්ටම කර ගන්නා අපරාධයක් විනාශයක් බව තමන්ටම නොපෙනී යයි. මෙසේ තමන් විසින් කරන, කියන, හිතන නරක දේ නිසා ඔහුටම උරුම වන, අයිති වන, විඳින්නට සිදුවන මෙවැනි අයහපත් ඵල විපාකයන් ගැන ඔහුම දැක ගත්තොත් කිසිම දවසක මෙවැනි නරක ගති කිසි විටෙකත් ඔහු විසින් ඇසුරු නොකරනු ඇත. නමුත් බුදුපියාණන්වහන්සේ දේශණා කර වදාළ ධර්මය අසා දැන ගැනීමෙන් තමන්ම විඳින, විඳවන දුක නොපෙණෙන්නට හේතු වූ කාරණය අවබෝධ කරගත හැකි වේ. අවිද්‍යාව බිහිවන ආකාරයද වටහා ගත හැකි වේ.

ද්වේෂයෙන්, වෛරයෙන් කෑ ගැසීමේ ක්‍රියාව නිසාත් යම් පුද්ගලයෙකුට වින්දනයක් ලැබිය හැකි වේ. තමන්ගේ සිත තුළ පුපුරමින් තිබූ ද්වේෂයෙන් මත් වූ ශක්තිය දැන් ඔහු විසින් මොහොතකට පිට කිරීමෙන් යම් සහනයක් ලබා ගනී. ධර්මාවබෝධය ලැබූ සතර සතිපට්ඨානයෙන් ක්‍රියා කිරීමට සිත සකස් කරගත් පුද්ගලයන් ලෙස මෙවැනි අයට අනුකම්පා කළ යුතු වේ. ඒවාට පටළැවීම හෝ රාගයෙන් ක්‍රියා කරන පුද්ගලයින්ට ඇලීම

නුසුදුසු වේ. මේ අන්ත දෙකමත් ''අනිච්චයි, දුක්ඛයි, අනත්ථයි'' යනුවෙන් නිතරම යථාවබෝධයෙන්ම මෙනෙහි කිරීමට පුරුදු විය යුතුයි. මේ සතර සතිපට්ඨානයෙහි පිහිටීම නිසා සත්ත බොජ්ජංගයන්ම වැඩෙන ආකාරයයි.

බාහිර ලෝකයෙන් හෝ තම චිත්තසංථානය තුළින්ම හෝ මතු වී එන සියලුම අරමුණු (ආරම්මණයන්) දෙස ඉතාමත්ම විමසිල්ලෙන් බලා සිට ඒවා ක්‍රියාත්මක වීමට පෙර ඒවා තෝරා බේරා ඒ ඒ අවස්ථාවේදී තමන් හමුවට පැමිණෙන ලෝභ, ද්වේෂ, මෝහ යන අකුසල ධර්මයන්ට අදාළ වූ අරමුණු නම් ඒවා වෙන් කොට දැකගෙන ඒ ඒ මොහොතේම ඒවා ප්‍රහාණය කිරීමට පුරුදු විය යුතුයි. කල් දැමීමක් කිසි විටකත් නොකළ යුතු වේ. හිතට වහල් වී අරමුණු කෙතරම් ප්‍රිය වුවත් ඊට ඇලී ඉන්ද්‍රියයන් පිනවීමද නොකළ යුතුයි. අරමුණු කොතරම් අප්‍රිය වුවද ඊට ගැටී ඉන්ද්‍රියයන් පිනවීම නොකළ යුතු වේ. මානයෙන්, මමත්වයෙන් කටයුතු කිරීමද නොකළ යුතු වේ. මෙතැනදී ඉක්මන් වීමෙන් සිත කම්පනයට බයට පත් වුණොත් වේදනාවට චලනයට පත් වුණොත් නොඉවසිල්ලක් සිතටම ඇති වී අරමුණ ක්‍රියාත්මක වීමට පටන් ගනී. මුළු දවස පුරාම ඒ ඒ මොහොතේදීම ඉවසා විමසා කටයුතු කිරීමටත් මොහොතක් හෝ ප්‍රමාද නොකර ආරම්මණයක් සිතට අරමුණු වූ වහාම මැන, පෙරා, තෝරා, බේරා, භාවිත කළ යුතු දේ භාවිත කිරීමටත් (ආන) භාවිත නොකළ යුතු දේ බැහැර කිරීමටත් (පාන) පුරුදු විය යුතුයි.

මේ ක්‍රියාවලිය ඉතාමත් සියුම් ක්‍රියාවලියකි. ඒ ඒ අවස්ථාවේදීම ක්‍රියාත්මක නොවුන හොත් පසුවට කල් දැමීම අනාථ වීමකි. විසුරුණු අවිවේකී සිතකින් කිසි විටෙකත් ඉහත විස්තර වූ ක්‍රියාවලියට අනුගතව ක්‍රියා කළ නොහැක. මේ සඳහා තමාගේ සිත මනාකොට පුරුදු පුහුණු කරගත යුතුයි. සතර සතිපට්ඨානයෙහිම පිහිටා කටයුතු කිරීමට තමන්ගේම සිත තමන්ම පුරුදු පුහුණු කර පදම් කරගත් පසුව ඒ ධර්මතාවය, ඒ යථාවබෝධය, ඒ සත්‍යාවබෝධය කිසිවෙකුට හෝ කුමන ආකාරයේ සුන්දර දේකින් හෝ කර්කශ දේකින් හෝ වික්ෂෝපයට පත් කරවීමටත් නොහැකි වේ. උද්ධච්චයට පත් කරවීමටද නොහැකිය. මේ "උද්ධච්ච විග්ගහිත මානසං" යන ක්‍රියාවලියයි.

හැම පෘථග්ජන පුද්ගලයෙක් තුළම මේ සංසාර ගමන පවත්වා ගැනීමට අවශ්‍ය කාන්දම් ශක්තියක් උත්පාදනය කර ගන්නා විශේෂ බලයක් ඇත. රූප කාම, ශබ්ද කාම, ගන්ධ කාම, රස කාම, පොට්ඨබ්බ කාම, ධම්ම කාම යනුවෙන් ධර්මයේ නම් කරන මේ කාම ගුණයන් තමන්ගේම ඇස, කන, නාසය, දිව, කය, මන යන ඉන්ද්‍රියයන්ට ස්පර්ශ වීම මේ කාම ධාතුවේ විශේෂ ශක්තියක් ඉපදවීමට නියත වූ හේතුව වේ. අපගේ චිත්තසංථානයේම තැන්පත් වී ගබඩා වී පවතින මේ කාම ගුණයන්ගේ ශක්තිය සිත තුළම අවධි වීමෙන් ප්‍රිය දේට ඇලීම සිදු වේ. පටිච්ච වීමද සිදු වේ. මේ කාම ගුණයන්ගේ ශක්තිය අවධි වුණොත් ඒ ශක්තියට යට නොවී සිටින්නට පෘථග්ජන පුද්ගලයෙකුට නොහැකි වේ. ඊට හේතුව මත 'වීමයි. සියලුම පීඩාවන් විඳීමට, සියලුම පලිබෝධයන් උරුම වීමට, දුක් විඳීමට මේ කාම ගුණයන් තම තමන්ගේම චිත්තසංථානය තුළම ගබඩා වී පැවතීම හේතුවෙන් මේ කාම ගුණයන්ගේ රස බැලීමට විඤ්ඤාණය නිතරම සැදී පැහැදී සිටී. මේ කාම ගුණයන්, විඤ්ඤාණයට ආහාර සපයා දීම කරනු ලැබේ. පස්ස ආහාර, සංචේතනා ආහාර, කබලිංකාර ආහාර, විඤ්ඤාණ ආහාර කොටස් හතරම උත්පාදනය කර බැඳීම සිදු

වන්නේ විඤ්ඤාණයට ආහාර සපයා දීම සඳහායි. අරහත් තත්ත්වයට පත්වූ කෙනෙක් මේ කාම ගුණයන් වල රහ නොබලයි. රහ බැලීමෙන් වෙන් වී, රස අත්හැර, සහමුලින්ම රහ බැලීම අත්හල නිසා කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා කිසිවක් සිතේ උත්පාදනය නොවේ. ඒ නිසා පංචස්කන්ධයම උපාදානය කර නොගනී. අතීතයේ උපාදානය කර පරිහරණය කරමින් සිටි පංචස්කන්ධයම අත්හැර නිදහස් වීමත් අලුතින් පංචස්කන්ධය උපාදානය කර නොගැනීමත් පංචඋපාදානස්කන්ධයම උපාදානය කරගැනීමේ ක්‍රමවේදය සිතින්ම බැහැර කර නිදහස් වීමත් නිවන් දැක ගැනීම වේ.

බුදුපියාණන්වහන්සේ සතර සතිපට්ඨාන භාවනාව දේශණා කර පෙන්වා දීමෙන් අපට වැදගත්ම පණිවිඩයක් ලබා දුන්හ. මේ නිවැරදි පණිවුඩය පළමුවෙන්ම පැහැදිළිවත්, සරළවත් තමන්ම යථා පරිදි අවබෝධ කරගත යුතුයි. ඒ පණිවුඩය දැන, අසා, භාරගෙන නිහඬවම සිටිය යුතු නොවේ. ඒ පණිවුඩයට අනුව තම තමන්ගේ පැවැත්ම සංවිධානය කර ගැනීම තමන් දුකින් මිදීමටත් සැපයට ළං වීමටත් හේතු වේ. මේ පණිවුඩයෙන් පෙන්වා වදාළ අනුගමනය කළයුතු ප්‍රතිපදා මාර්ගයේ කිසිම ආකාරයක සැපයක් බලාපොරොත්තුවක් පිළිබඳව දක්වා නැත. කළ යුත්තේ දුක් දෙන දේ, දුක් දෙන්නට හේතුවන දේ අස් කිරීම පමණි. තමන් කළයුතු දේ කළ යුතුයි. නමුත් ඒ ක්‍රියාව කිරීම නිසා කිසිම ආකාරයක ප්‍රතිලාභයක් තමන් බලාපොරොත්තු නොවිය යුතුයි. ප්‍රතිලාභයක් තමන් ආපසු බලාපොරොත්තු වේ නම් දුකට මුල් වන හේතුවත් එයම වේ.

සමුදය ධර්ම යන පදයේ අර්ථය හොඳින්ම අවබෝධ කරගත යුතු වේ. සං+උදය එනම් සමුදය බිහි කිරීම නිසා අපගේ ජීවිත කිළිටි වීම සිදු වේ. රාග ගතිය, ද්වේෂ ගතිය, මෝහ ගතිය නැවත නැවතත් සිතක් තුළින් උත්පාදනය වීම වන්නේ සමුදය හේතු කොට ගෙන වේ. විඤ්ඤාණයට මේ පැවැත්ම තමන්ට රිසි පරිදි, කැමති පරිදි දිගටම පවත්වා ගතහැකි වන්නේ මේ සමුදය ධර්ම උත්පාදනය කර ගන්නා නිසාමයි. සමුදය ධර්ම ක්‍රියාත්මක වන තුරාවට කෙනෙකුගේ චිත්තසංථානය කිළිටි වන නිසා කම්සැප බලාපොරොත්තු වේ. පව්කම් කරයි. අවිද්‍යාවෙන් මෝහයෙන් බොහෝමයක් අකටයුතු දේ කරයි. නොකළයුතු දේ කරයි. ඉන් දුක් විඳී.

"නිරෝධ කිරීම" යනු නිර්උදා යන අර්ථයයි. සමුදය වීම නැවැත්වීම නිරෝධ කිරීමයි. නිරෝධ යන්නට අනුප්පාදෝ යන අර්ථයද භාවිතා වේ. එසේ නම් සමුදය උත්පාදෝ - නිරෝධය අනුත්පාදෝ, සමුදය උප්පජ්ජති - නිරෝධ අනුප්පාදෝ (අජාති), යනුවෙන් ධර්ම විග්‍රහයේ පෙන්වූයේ සමුදය නිසා ඇතිවන ප්‍රතිවිපාකයි. සමුදය නිරෝධ කිරීමෙන් අනුප්පාදෝ යන තත්ත්වයට පත්වූ විට නිදහසයි. නිවනයි.

"අනුප්පාදෝ සුඛං, අනුප්පාදෝ ඛේමං, අනුප්පාදෝ නිරාමිසං, අනුප්පාදෝ නිබ්බානං" නිවන යන නිදහස් තත්ත්වයට පත් වීමට නිරෝධගාමී ප්‍රතිපදාව දිගින් දිගටම අනුගමනය කර සමුදය නිරෝධ කිරීමට පුරුදු පුහුණු වීම කළ යුතුම වේ.

අපි මෙතෙක් කාලයක් සංසාරේ හිතන්නට පුරුදු වී සිටිය සම්මත ක්‍රමයක් අපි ළඟ තිබුණි. මෙය සිතිය යුතු නිවැරදි ක්‍රමය නොවෙයි. වැරදි ආකාරයට සිතූ නිසා ඒ අනුව

ක්‍රියාකළ නිසා අපි දුක් විඳ ඒවා විඳිමින් ඒවාම උරුම කර ගතිමු. මෙතෙක් කාලයක් සිතු වැරදි ක්‍රමය දැන් අපිම වෙනස් කර ගත යුතු බව යථාපරිදි අවබෝධ කරගැනීමත් කළ යුතු වේ. අලුත් ක්‍රමයට සිතා ක්‍රියා කිරීමට පුරුදුවීම සතර සතිපට්ඨානයෙහි පිහිටා කටයුතු කිරීමයි. තමන්ගේම සිත අන්තගාමී ලෙසින් ප්‍රිය දේට ඇලේ නම්, අප්‍රිය දේට ගැටේ නම්, තරහා ගනී නම්, මානයෙන් මුළාවෙන් ක්‍රියා කරයි නම් ඒ මෙතෙක් සංසාර ගමනට උපකාර වූ වැරදි සිතිවිලි පැවැත්වූ පෘථග්ජන ක්‍රමවේදයයි. දැන් කොතරම් ප්‍රිය වුණත් නොඇලේ. කොතරම් අප්‍රිය වුණත් නොගැටේ. මෝහයෙන් මානයෙන් මුළා නොවේ. උපේක්ඛා සිතින් ඉවසා විමසා සැනසීම ලබයි. නිවන් දැකීම යනු මෙම අත්දැකීමයි.

අපි අපේම අතීත හැසිරීම් රටාව දෙස කල්පනාවෙන් විමසා බලමු. මම ඇසින් බැලුවේ, කනින් ඇසුවේ, නාසයෙන් ආඝ්‍රාණය කළේ, දිවෙන් රස වින්දේ, කයෙන් ස්පර්ශ කළේ, මනසින් සිහින මැව්වේ, සිතිවිලි දිගේ රවුම් ගැහුවේ මට අවශ්‍ය වන නිසා නොවේ. ජීවිතය පවත්වා ගැනීමට විඤ්ඤාණයට අවශ්‍ය වූ නිසයි. ජීවිතය පවත්වා ගෙන යාම සඳහා මේ කාම ධර්මයන් නියත වශයෙන්ම උපකාර වන නිසා අප හැම කෙනෙක්ම ප්‍රිය දේට ඇලීමත්, අප්‍රිය දේට ගැටීමත් මේ දෙක අතරේ මුලා වීමත් මගින් මේ කාන්දම් ශක්තිය, විඤ්ඤාණ ශක්තිය, ශරීර කුඩුව තුළම පවත්වා ගෙන යනු ලබයි. මේ ශක්තිය ''කායේ කායානුපස්සනාවෙන්'' සංසිඳවා ගත යුතු වේ. ජීවත් වීම සඳහා කරන, කියන, හිතන හැම දෙයක්ම දුකකුත් උත්පාදනය කර දෙනු ලැබේ. ජීවත් වීමට බලාපොරොත්තුවක් ඇති නිසාත් බලාපොරොත්තුව ඒ ආකාරයෙන්ම ඉටු නොවූ නිසාත් දුක උරුම වේ.

ඇස, කන, නාසය, දිව, කය හා මන පිනවීමේ ආශාව කය රමණය කිරීමේ ආශාවයි. මිනිසා යන සත්ත්වයාට හැර වෙනත් කිසිම සත්ත්වයකු මේ ක්‍රියා හයට ඇලීම නිසා දුක් විඳීම නොකරයි. කාමයට යටත්වීම කාමය පළිබෝධයක් වීම කැමති වූ දේ නොලැබීම හා කැමති වූ දේ ඒ ආකාරයෙන්ම පවත්වා ගැනීමට නොහැකි වීම යන සියලුම දේ දුක් විඳවීමට මූලික හේතූන් වේ. බොහෝම මිනිසුන්ට ජීවිතය එපා වීමට සියදිවි නසා ගැනීමට හේතුව මේ දුක ඉවසා දරා ගැනීමට නොහැකි වීමයි. මිනිසා හැර වෙනත් කිසිම සත්ත්වයෙකු සියදිවි හානි කර නොගනී. මිනිසාට ඇති ශක්තිය වෙනත් කිසිම දෙවියෙකුවත් ලබා නැත. කාමය නිසාම ජීවත්වන කාමය නිසාම ජීවත්වීම එපා වෙන එකම සත්ත්වයාත් මිනිසායි.

ත්‍රිපිටකගත බුද්ධ දේශණාවේ මජ්ඣිම නිකායේ සඳහන් සතර සතිපට්ඨාන සූත්‍රයේත් ආනාපානසති සූත්‍රයේත් ගිරිමානන්ද සූත්‍රයේත් දීඝනිකායේ සඳහන් මහා සතර සතිපට්ඨාන සංයුක්තය පුරාමත් පටිසම්භිදා මග්ගප්‍රකරණයේ සඳහන් වන සතිපට්ඨාන විග්‍රහයේත් විවිධාකාරයෙන් විග්‍රහකර පෙන්වා වදාළ සතර සතිපට්ඨාන භාවනා ක්‍රමය නිසි අවබෝධයකින් යුතුවම ප්‍රායෝගිකවම තමන්ම භාවිතා කළ යුතු භාවනා ක්‍රමයකි. නිවන් මඟඵල අවබෝධය සඳහා උපකාර වන සතර සතිපට්ඨාන භාවනාව වැඩීමේ නිවැරදි ක්‍රමය බොහෝ දෙනෙකු භාවනා කරනු ලබන්නේ ධ්‍යාන ලබාගැනීමේ ඒකායන බලාපොරොත්තුවකිනි. මඟඵල අවබෝධ කර ගැනීමේ අදහසින් නොවේ. එදා ගෝතම බුදුපියාණන්වහන්සේ සතර සතිපට්ඨාන භාවනා ක්‍රමය ලෝකයාට අනුදැන දේශණා කර

වදාළේ ලෞකික වශයෙන් යමක් ලබාගැනීමේ අරමුණින් නොවේ. කෙළෙස් ප්‍රහාණය කර චිත්තසංථානය පිරිසිදුකර ගැනීමේ ක්‍රමවේදයක් ලෙසයි. දිර්ඝ සංසාර ගමනේදී කවදා හෝ කොතැනක දී හෝ තමන්ම එකතු කර අදටත් පරිහරණය කරනු ලබන අයහපත් ගති පුරුදු කිහිපයක් භාවිතයෙන් අතහැරීමටත් යහපත් ගති පුරුදු ඒ වෙනුවට භාවිතයට පරිහරණයට ගැනීමටත් ක්‍රමවේදයන් කිහිපයක්ම මේ මහා සතරසතිපට්ඨාන සූත්‍රයේදී පෙන්වා වදාරා ඇත.

මිනිසෙකු සතුව පවතින විමර්ශන ඥාණයම, විපස්සනා ඥාණයම මතුකර සිත පිරිසිදුකර ගැනීමට මාර්ගය කියා දී මිනිසා සතු සිතීමේ හැකියාව යෝනිසෝමනසිකරණීය ශක්තියම විපස්සනා ගුණය ලෙසින්ම ඉස්මතු කර භාවිතා කිරීමට ඒ ඒ පුද්ගලයාටම මඟ පෙන්වා දීම බුද්ධ ධර්ම මාර්ගයයි. තම තමන්ගේ සිත කිළිටි වූ තත්ත්වයෙන් ක්‍රියාත්මක වන තුරාවට තමන් දුක් විඳින බවත් සැප සොයා, සැප හඹා යන බවත් තණ්හාවෙන් අවිද්‍යාවෙන් තමන් ක්‍රියාත්මක වන බවත් දැන ගන්නට හෝ දැක ගන්නට හෝ තමන්ටම නොහැකි වන බවත් මිනිසුන්ට පෙන්වා දුන්නේ බුද්ධ ධර්මයෙන්ම පමණි. ඒ ඒ පුද්ගලයාටම වෙන වෙනම පෞද්ගලිකවම තම තමන්ගේම චිත්තසංථානයේ ගබඩා වී පවතින කෙළෙස් ගති පුරුදු ප්‍රහාණය කර ගැනීමට සමුච්ඡේද වශයෙන්ම ඉවත්කර මුලින් උදුරා දමන්නට මඟ කියා දුන් එකම ධර්මය බුද්ධ ධර්මයයි.

මනසක් සහිතව උපත ලත් මිනිසෙකුට අනුගමනය කළ හැකි ආකාරයෙන් තම මනස මෙහෙයවා ඉවසා විමසා බලා ඇත්ත ඇති සැටියෙන් දැක ගන්නට යථාපරිදි දැක ගත් නිවැරදි මාර්ගය අනුගමනය කර දුකින් නිදහස් වන්නටත් මඟ පෙන්වූ එකම දහම බුදු දහමයි. කිසිම ආගමකින් මෙවැනි පරම පවිත්‍ර මඟ පෙන්වීමක් පෙන්වා දී නැත. මේ නිසා බුදු දහම "යථාවාදී තථාකාරී තථාවාදී යථාකාරී" ධර්මයකි.

කාය, වේදනා, චිත්ත, ධම්ම යනු තමන්ගේම සිත තුළම ක්‍රියාත්මක වන අවස්ථා හතරකි. මේ අවස්ථා හතරම සිත තුළ ක්‍රියාත්මක වීමට මුල් වූ නිදාන වූ එකම හේතුව ප්‍රිය අප්‍රිය යන ගති දෙකක් හිතේම උප්පත්තිය ලැබීම හා ක්‍රියාත්මක වීමයි. කැමැත්ත, අකැමැත්ත, මනාප බව, අමනාප බව, මිහිරි බව, අමිහිරි බව යන දෙපැත්ත දෙකෙළවර නිසාම දුක, සැප යන අන්ත දෙක සිතේ බිහි වේ. ලාභ අලාභ, යස අයස, නින්දා ප්‍රසංසා යන අෂ්ටලෝක ධර්මයට අදාළ සියලු දේම සිතක මතුවන දේ වේ. සිතක ක්‍රියාත්මක වන ගති පුරුදු මේ අන්ත දෙක අතර දෝලනය වන බව වටහා ගත යුතුයි. විඤ්ඤාණය දිගින් දිගටම ජීවත් කරවීම සඳහා ආහාර සපයන්නේ මේ ගති පුරුදුවල දෙඅන්තයෙන්මයි. "උභෝ අන්තෝ අනුපගම්ම මජ්ඣිමා පටිපදා තථාගතේන අභිසම්බුද්ධා" යනු උපේක්ඛා සිතකින් මේ අන්ත දෙකටම නොවැටී මත් නොවී, මිදී නිදහස් වීමයි. මෙවන් උපේක්ඛා සිතක් පැතිර වීමටත්, පවත්වාගෙන යාමටත් පුරුදු පුහුණු විය යුතුයි. සතර සතිපට්ඨානයෙහි පිහිටා උපේක්ඛා සිතකින් ක්‍රියාකර ප්‍රිය අප්‍රිය අන්ත දෙකටම නොඇලී, නොගැටී, ඉවසා විමසා කටයුතු කිරීම නිවනට නිදහසට මාර්ගයයි.

''ලෝකය හොඳයි ලෝකය නරකයි'' යනුවෙන් ප්‍රිය, අප්‍රිය යන අන්ත දෙක තෝරන ගති පුරුද්දක් සිතක පවතී නම් ඒ ගති පුරුද්ද සිතින් ඉවත් කරගන්නා තුරුම ඒ පුද්ගලයා

සතර සතිපට්ඨානයෙහි පිහිටා කටයුතු කරන පුද්ගලයෙකු යනුවෙන් සඳහන් කළ නොහැකියි. මේ ආකාරයෙන් ලෝකයේ යථාස්වභාවය දැක ගැනීමෙන් "අනිච්ච, දුක්ඛ, අනත්ථ" අනුපස්සනා කර "නිච්ච සුඛ අත්ථ" සංඥා සිතින් ඉවත් කර ගැනීමත් කළ හැකියි. හොඳ ලෝකයක් හොයන්නෙත් නරක ලෝකය සමඟ ගැටෙන්නෙත් හිතේ නිච්ච සුඛ අත්ථ දෘෂ්ඨියක්, ආකල්පයක් පැවතීම නිසාමයි.

"අනිච්ච, දුක්ඛ, අනත්ථ" අනුපස්සනා කර යථාපරිදි ලෝකය අවබෝධ කරගත් කෙනෙකුට තමන්ගේ හිත හදාගෙන බාහිර ලෝකය තමන්ට කැමති පරිදි පවත්වාගන්නට, නවත්වන්නට නොහැකි බවත් තේරුම් ගනී. තමන්ගේ ලෝකය හෝ බාහිර ලෝකය හෝ තමන්ගේ ප්‍රිය මනාප ආකාරයට කැමැත්තට ගැළපෙන ආකාරයට පවත්වන්නට තමන් උත්සාහ දරණ තුරාම එය ඉෂ්ඨ සිද්ධ නොවීම නියත නිසා දුකට පත්වන බවත්, අනාථ තත්ත්වයට තමන්ම පත්වෙන බවත් යථාපරිදි දැනගනී. දැකගනී. තේරුම් ගනී. මේ දැකීම යථාභූත ඥාණ දර්ශනයයි.

යම් කෙනෙක් මේ බුද්ධ ධර්මය ගැඹුරුයි, තේරුම් ගැනීම අවබෝධ කර ගැනීම අමාරුයි යනුවෙන් සිතයි නම් ඊට එකම හේතුව තමන්ගේ මානසික ශක්තිය අපිරිසිදු වීමයි. තමන්ගේම මනස රාගයෙන් ද්වේෂයෙන් මුවහ වී ඇති නම් ගැඹුරු ධර්මය තේරුම් ගත නොහැකියි. පළමුව කළ යුත්තේ රාගය, ද්වේෂය තුනී කර මනසිකරණ ශක්තිය පිරිසිදු කරගැනීමයි. සීල, සමාධි, පඤ්ඤා යන ත්‍රිශික්ඛාවම පිළිපැදිය යුතු ප්‍රතිපදාවන් සමූහයකි. ප්‍රායෝගිකවම තමන් කළයුතු හා නොකළ යුතුදේ වෙන් කර තේරුම් ගෙන සීලයේ පිහිටා, සමාධියෙන් හා ප්‍රඥාවෙන් කටයුතු කිරීම සතර සතිපට්ඨානයේ පිහිටා ක්‍රියා කිරීමමයි. සතර සතිපට්ඨාන සූත්‍රයෙන් පෙන්වා වදාළ පිළිපැදීම් සමූහය ප්‍රායෝගිකව අනුගමනය කරයි නම් සීල සමාධි පඤ්ඤා ත්‍රිශික්ඛාවම තමා තුළින්ම පූර්ණ වේ.

එදා ලොව්තුරු බුදුපියාණන් මහා සතර සතිපට්ඨාන සූත්‍රය ලෝකයාට දේශණා කර පෙන්වූයේ මෙම ක්‍රමවේදයයි. මේ ක්‍රමවේදය අදවන විට පදපරම අර්ථයෙන් තේරුම් ගෙන ලෝකයාට ලෞකික සුවයම හුවා දක්වන්නට ක්‍රියා කිරීම නිවන වැසී යාමට හේතුවයි. නිවැරදිව සතර සතිපට්ඨාන භාවනාව භාවිතා කිරීම එකම නොවරදින මාර්ගය බව සැම දෙනාම අවබෝධ කර ගනිත්වා.

## සතර සතිපට්ඨාන සූත්‍රයේ පෙන්වාදුන් පියවර 21 (පබ්බයන්)

සතර සම්මප්පදාන, සතර ඍද්ධිපාද, පංච ඉන්ද්‍රියය ධර්ම, පංච බල ධර්ම, සත්ත බොජ්ජංග මෙන්ම අෂ්ටාංගික මාර්ගයද යන සත්තිස් බෝධිපාක්ෂික ධර්මයන්ම මිනිසෙකුගේ සිත තුළ ක්‍රමානුකූලව පරිපූර්ණ වන්නේ සතර සතිපට්ඨානයෙහි පිහිටා සතියෙන් ක්‍රියා කරන්නෙකු බවට පත් වීමෙනි. සතර සතිපට්ඨාන වඩන්නට නොදන්නා සතිපට්ඨාන භාවනාව නිවැරදි ආකාරයට භාවිතා කරන්නට පුරුදු නොවූ කෙනෙකුට භාවනා කරනවා, ධුතාංග රකිනවා යැයි සිතා වෙන මොන යම් ක්‍රියාවක නිරත වූවත් සත්තිස් බෝධිපාක්ෂික ධම්මයන් නම් සම්පූර්ණ කරගෙන මඟඵල ලබාගන්නට නොහැකිය. අනුපූරක නිවන් මාර්ගයේ ධම්මානුධම්ම ප්‍රතිපදාවේ මුල්ම පියවර වන්නේ නිවැරදිව සතර සතිපට්ඨානයෙහි පිහිටා ක්‍රියා කරන්නට පුරුදු වීමයි. අවසාන වශයෙන් අරහත් ඵලය ලබන්නටද අරහත් ඵලය ලැබූ පසු නිවන් සුවය විඳින්නටද (ඉහාත්ම සුඛ විහරණය ලබන්නට) සතර සතිපට්ඨානයේම පිහිටා ක්‍රියා කළ යුතුයි.

සීල, සමාධි, පඤ්ඤා, ත්‍රිශික්ඛාවද සමථ, විපස්සනා භාවනා දෙකද චේතෝ විමුක්තිය හා ප්‍රඥා විමුක්තියද, සම්මා දිට්ඨියේ පටන් සම්මා සමාධිය තෙක් අරිය අෂ්ටාංගික මාර්ගයද, සම්මා ඥාණ හා සම්මා විමුක්තියද සම්පූර්ණ වන්නේත් සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරහත් යන මාර්ගයන් හතර හා ඵලයන් හතර මෙන්ම නිබ්බාන නමැති අවසන් නිවීමද සම්පූර්ණ වන්නේත් සතර සතිපට්ඨානය යථාපරිදි දැන ප්‍රායෝගිකවම දෛනිකවම සතර සතිපට්ඨානයෙහි පිහිටා ක්‍රියාකරන්නෙකු බවට පත් වීමෙනි.

රාග ගතිය, ද්වේෂ ගතිය, මෝහ ගතිය යන චිත්තසංථානය කිළිටි කරන කෙළෙස් ගති සියල්ලම චිත්තසංථානයෙන් ප්‍රහාණය කර ඉවත් කර දමන්නටත් යළි යළිත් මේ කෙළෙස් ගති චිත්තසංථානයෙහි හටගන්නට බිහි වන්නට හේතු වන කෙළෙස් මුල් සමුච්ඡේදනය කර කෙළෙස් මුල් සිඳ දමන්නටත් යළි කවදාවත්ම කෙළෙස් ගති බිහි නොවන ආකාරයට එනම් අනුප්පාද තත්ත්වයට චිත්තය පාරිශුද්ධතාවයට පත්කර ගන්නටත් උපකාර කරගත හැකි එකම ප්‍රායෝගික ක්‍රියාමාර්ගයද සතර සතිපට්ඨාන භාවනාව ප්‍රගුණ කිරීමයි.

සුව අසුව දහසක් වූ මුළු බුද්ධ දේශණාවෙහිම මූලික හා ප්‍රායෝගික හරය මහා සතර සතිපට්ඨාන දේශණාවයි. වෙනත් කිසිම සූත්‍ර ධර්මයක ප්‍රකාශ නොකළ දෙයක් මේ සූත්‍රය ආරම්භයේ දී හා අවසානයේ දී පැහැදිළිවම දේශණා කර වදාරා ඇත. මහා සතර සතිපට්ඨාන සූත්‍රය ආරම්භයේම සතර සතිපට්ඨානයෙහි පිහිටා ක්‍රියා කිරීමෙන් නියත වශයෙන්ම ලබාගත හැකි ප්‍රතිඵල පළමු කොටම දේශණා කර පෙන්වා ඇත. ඒවාගේම මේ ඵල උරුමකර ගන්නට ගතවන උපරිම හා අවම කාලය අවසානයට පෙන්වා වදාරා ඇත. මුළු ත්‍රිපිටකයේ වෙනත් කිසිම සූත්‍රයක, ගාථාවක මෙවන් නිශ්චිත වූ ප්‍රකාශයක් කර නැත. මේ නිසා, නිවන් මඟ අනුගමනය කරන බෞද්ධයාට මෙය ඒකායන මාර්ගයයි.

"ඒකායනෝ අයං භික්ඛවේ මග්ගෝ සත්තානං විශුද්ධියා, සෝකපරිද්දවා නං සමතික්කමාය, දුක්ඛ දෝමනස්සානං අත්‍ථගමාය, ඤායස්ස අධිගමාය, නිබ්බානස්ස, සච්ඡිකිරියාය, යදිදං චත්තාරෝ සතිපට්ඨානා"

රාග, ද්වේෂ, මෝහ යන කෙළෙස් ගතිවලින් කිළිටි වී සංසාර ගැටළුවට මැදිවී ක්‍රියා කරන ලෝක සත්ත්වයාට කෙළෙස් ප්‍රහාණය කර විසුද්ධ ත්ත්වයට පත්වීමටත් සෝක පරිදේවාදී පළිබෝධයන්ගෙන් මිදී නිදහස් වන්නටත් දුක්ඛ දෝම්නස්වලින් සදහටම අත මිදෙන්නටත් උතුම් මඟඵල ලබා ගන්නටත් බානෙන් මිදී "නිබ්බාන තත්ත්වය" ශාක්සාත් කරගන්නටත් ඒකායන මාර්ගය සතර සතිපට්ඨානය භාවිත කිරීමයි යන්න මෙහි සරළ සිංහල තේරුමයි.

පැය විසිහතර පුරාම සම්පූර්ණ කරගත යුතු ධම්මානුධම්ම ප්‍රතිපදාවක් මෙහිදී අනුගමනය කළ යුතුව ඇත. මේ සූත්‍රයේ අනුගමනය කළයුතු පබ්බ 21ක්ම පෙන්වා දී ඇත. මෙසේ 21 වරක්ම අවධාරණයෙන් නැවත නැවතත් පෙන්වා වදාළ පාඨයන් යළි අධ්‍යයනය කර අර්ථ, ධර්ම වශයෙන් තේරුම් ගත යුතුය.

1. ඉති අජ්ඣතං වා කායේ කායානුපස්සී විහරති
   බහිද්ධාවා කායේ කායානුපස්සී විහරති
   අජ්ඣත්ත බහිද්ධා වා කායේ කායානුපස්සී විහරති
2. සමුදය ධම්මානුපස්සී වා කායස්මිං විහරති
   වය ධම්මානුපස්සී වා කායස්මිං විහරති
   සමුදය වය ධම්මානුපස්සීවා කායස්මිං විහරති
3. අත්‍ථි කායෝති වා පනස්ස
   සති පච්චුපට්ඨිතා හෝති,
   යාවදේව ඤාණමත්තාය
   පටිස්සතිමත්තාය
4. අනිස්සිතෝ ච විහරති
   නච කිඤ්චි ලෝකේ උපාදියති
   ඒවම්පි භික්ඛවේ භික්ඛු කායේ කායානුපස්සී විහරති

මෙම මාගධී පදවැල්වලින් පෙන්වා වදාළ කාරණය මහා සතරසතිපට්ඨාන සූත්‍ර දේශණාවේ හරයයි. මේ මාගධී පදවැල් 21 අවස්ථාවකදීම මහා සතරසතිපට්ඨාන සූත්‍රයේදී 21 වරක්ම අවධාරණයෙන්ම ප්‍රකාශ කර ඇත.

කායානුපස්සනාවේ දී "කායානුපස්සී විහරති", "කායස්මිං විහරති" යනුවෙන් 14 වරක්ද, වේදනානුපස්සනාවේ "වේදනානුපස්සී විහරති" "වේදනාස්මිං විහරති" යනුවෙන් එක් වරක්ද, චිත්තානුපස්සනාවේ "චිත්තේ චිත්තානුපස්සී විහරති", "චිත්තස්මිං විහරති" යනුවෙන් එක් වරක්ද, ධම්මානුපස්සනාවේ "ධම්මේසු ධම්මානුපස්සී විහරති" "ධම්මස්මිං විහරති" යනුවෙන් පස්වරක් දැයි 21 වරක්ම දේශණා කර වදාළේ "අනිස්සිතෝ ච විහරති නච කිඤ්චි ලෝකේ උපාදියති" යන නියත ධර්මතාවයයි. යථාපරිදි මේ නියත ධර්මතාවය

තේරුම් කරදීම සඳහාම මුළු සතර සතිපට්ඨාන සූත්‍රය පුරාම දරණ උත්සාහයක් මේ පදවැල් 21 වතාවක්ම අවධාරණයෙන්ම ප්‍රකාශ කිරීමෙන්ම මොනවට පැහැදිළි වෙයි.

"අනිස්සිතෝ ච විහරති" යන පදවල විරුද්ධ අර්ථය, අනික් පැත්ත "නිස්සිතෝ ච නප්පජානාති" යන්නයි.

"අනිච්චානුපස්සී විහරති, නිච්ච සඤ්ඤා පජහති" යනුවෙන් ද අර්ථ ගැන්වූයේ එකම අදහසයි.

"අනිස්සිතෝ ච විහරති" තත්ත්වය අවබෝධ කරගත් කෙනෙකු,
දුක්ඛතෝ ච විහරති
අනත්ථතෝ ච විහරති
නිබ්බිතෝ ච විහරති
විරාගෝ ච විහරති
නිරෝධෝ ච විහරති
පටිනිස්සග්ගතෝ ච විහරති - න ච කිඤ්චි ලෝකේ උපාදියති"

යන්නද අවබෝධ කරගනී.

මේ පාඨයන්ගෙන් කියැවෙන අර්ථය සමඟ ද සසඳා බලන්න

| | | |
|---|---|---|
| අනිච්චානුපස්සී විහරති | - | නිච්ච සඤ්ඤා පජහති |
| දුක්ඛානුපස්සී විහරති | - | සුඛ සඤ්ඤා පජහති |
| අනත්ථානුපස්සී විහරති | - | අත්ථ සඤ්ඤා පජහති |
| නිබ්බිදානුපස්සී විහරති | - | නන්දි සඤ්ඤා පජහති |
| විරාගානුපස්සී විහරති | - | රාග සඤ්ඤා පජහති |
| නිරෝධානුපස්සී විහරති | - | සමුදයං පජහති |
| පටිනිස්සග්ගානුපස්සී විහරති | - | සබ්බූපදියං පජහති (සබ්බූපදි පටිනිස්සග්ගෝ) |

"න ච කිඤ්චි ලෝකේ උපාදියති" යනු තම සිතින්ම මවාගෙන නිර්මාණය කරගත් මේ ලෝකය තුළ උපාදානය කරගන්නට තරම් වටිනා, සුදුසු කිසිම දෙයක් නැති බව සහතික කර අවබෝධ කරගනී'' යන්නයි. ත්‍රිලක්ඛණ භාවනාව වැඩීම මෙහිදීද පැහැදිළිවම ඇතුළත් කර ඇති බව මින් පැහැදිළි වෙයි. ලෝකය යනුවෙන් මෙහිදී අදහස් කළේ බඹයක් පමණ වූ මේ තුන් ලෝකයයි. කායේකායානුපස්සනා වශයෙන් සඳහන් කළේ අපි සම්මත සිංහල භාෂාවේ අදහස් කරන ශරීර කුඩුව යන්න (කය) නොවේ. කාය මිස ''කය'' යන පදයක් කිසි විටකත් මාගධී භාෂාවේදී භාවිතා කර නැත. "කාය" යනු ක්‍රියාවක යෙදීම යන අදහසයි.

සියලුම සත්ත්වයින්, ප්‍රාණීන් ක්‍රියාකාරකම් (කාය) හයක් කරමින් යම් යම් දේ එකතු කර ගනිති. ක්‍රියාකාරකම් කරමින් යමක් එකතු කරගන්නට කරන ක්‍රියාවට "සංඛාර" යන පදයද මාගධී භාෂාවේ භාවිත කර ඇත. වචී සංඛාර, කාය සංඛාර, මනෝ සංඛාර යනු

වචනයෙන්, ක්‍රියාවෙන් හා සිතින් යමක් එකතු කරගන්නට කරන ක්‍රියාකාරකමක් හැඳින්වීමකි. ඒවාගේම චක්ඛු කාය, සෝත කාය, ඝාණ කාය, ජිව්හා කාය, පොට්ඨබ්බ කාය, මනෝ කාය යනුවෙන්ද ඒ ඒ ඉන්ද්‍රියයන් ගෙන් කරන ක්‍රියාකාරකම් හඳුන්වයි. මේ ක්‍රියාකාරකම් හයම ක්‍රියාත්මක කරන්නේ අවිද්‍යාවෙන් හා තණ්හාවෙන් නම් එතනදී යමක් උපාදානය කරගෙන සිතින් ලෝකයක් නිර්මාණය කිරීමේ නියත අපේක්ෂාවක් හා බලාපොරොත්තුවක් ද ඇතිවයි. මේ ක්‍රියාව අවිද්‍යා සංඛාර පැවැත්වීමක් ලෙස ධර්මයේ පෙන්වා දෙයි. මේ අපේක්ෂාව, බලාපොරොත්තුව නිසා යමක් බිහිකර උත්පාදනය කරගනී. මෙසේ උත්පාදනය කර ගන්නේ සමුදයයි. (සං+උදය) සංසාර ගමන පවත්වාගෙන දිගටම ගෙන යන්නට උපකාර වන මෙවැනි "සමුදය" බිහි නොකරන්නේ නම් කර්ම බීජ, විඤ්ඤාණ බීජ සකස් නොවේ. (අනායුහණං) ආයුහණං යනු කර්ම බීජ සැකසීමයි. "අනායුහණං" යනු කර්ම බීජ සකස් නොවීම යන අර්ථයයි.

ඉන්ද්‍රියයන් හයටම අරමුණු වන රූප, ශබ්ද, ගන්ධ ආදී බාහිර අරමුණු වලට ඇස කන ආදී ඉන්ද්‍රියයන් පටිච්ච වීමෙන් සංඛාර කරමින් පංචස්කන්ධයම උපාදානය කරගෙන තමාගේම සිතෙන් ලෝකයක් තමන්ම නිර්මාණය කරගනී. එසේ නිර්මාණය කරගත් ලෝකය තමන්ට රිසි සේ මනාප සේ කැමති සේ දිගින් දිගටම පවත්වාගෙන යන්නට දරණ උත්සාහය අපි ජීවිතයක් පැවැත්වීම යනුවෙන්ද සඳහන් කරමු.

පෘථග්ජන පුද්ගලයකුගේ උත්සාහය, බලාපොරොත්තුව මෙසේ මවාගෙන නිර්මාණය කරගත් ලෝකය හැමදාම තමාට කැමති සේ, නිස්සිත සේ පවත්වාගෙන යාමයි. නමුත් මේ ලෝකය අවිනිශ්චිතය. ඒ බව යථාපරිදි අවබෝධ කරගත යුතුය. අපේ කැමැත්තට අනුව ලෝකය නොපවතී.

"අනිස්සිතෝච විහරති නච කිංචි ලෝකේ උපාදියති" යනු හේතුඵල පරම්පරාවක් ක්‍රියාත්මක කිරීම නිසා සාදා සකස් කරගත් මනෝමය ලෝකය තමන්ට කැමති සේ පැවැත්විය නොහැකියි. මෙසේ සකස්කර නිර්මාණය කරගත් ලෝකයේ නියත ස්වභාවය, ස්වරූපය "අනිච්ච" බවයි. කැමති සේ පවත්වාගත නොහැකි ලෝකයක් තුළ මම, මගේ, මගේ ආත්මය යැයි අල්ලා උපාදානය කරගන්නට සුදුසු වූ කිසිවක්ම නැති බව පසක් කොට අවබෝධ කරගත් පුද්ගලයා රිය ගමන අතහැර, අරිය තත්ත්වයටම පත්වෙයි. ලෝකයේ ඇති අසාර බව, අනාථ බව, අනිච්ච බව, අනිස්සිත බව, අසුබ බව, දුක්ඛිත බව, අනාථ බව මනාව තේරුම් ගත් විට උපාදානය කර ගැනීම නවතා දමයි. (සබ්බූපදි පටිනිස්සග්ගෝ) උපාදානය කරගත් සියල්ලම පටිලෙහා, ගැටලෙහා සිතින් බැහැර කර දමයි.

තමන් සිතින්ම නිර්මාණය කරගත් තුන් ලෝකයම (කාමලෝක, රූපලෝක, අරූප ලෝක) සාරවත් සේ, වටිනා සේ, සුබ සේ දකින්නා හැකි තරම් දේ උපාදානය කරගෙන කෙළෙස් පොදියක් කරගසාගෙන සංසාර සාගරයේ අතරමං වී සසර සැරිසරයි. දුක්විඳියි. සැප සොයමින් රිය ගමනක යෙදෙයි.

තමන් අද අද උපාදානය කරගන්නා අතීතයේදී උපාදානය කරගත් අනාගතයේදී උපාදානය කරගන්නට බලාපොරොත්තු වන මේ පංචස්කන්ධය තුළ කිසියම්ම කොටසක් හෝ තමන්ට රිසි සේ, කැමති සේ, මනාප පරිදි, නිච්ච වශයෙන් එක දිගටම එසේම පවත්වා ගන්නට, නවත්වා ගන්නට නොහැකි බව තමන්ටම යථාපරිදි අවබෝධ වීම "යාව දේව ඥාණ මත්තාය, පතිස්සති මත්තාය, අනිස්සිතෝච විහරති" යනුවෙන් සරළ ලෙසම මෙහිදී පැහැදිළි කර ඇත. නිර්මාණය කරගත් මේ ලෝකයේ නියම නිවැරදි තත්ත්වය තමන්ගේම නුවණින්, සතියෙන් යථා පරිදි තේරුම්ගත් අවස්ථාවක මෙහි උපාදානය කරගන්නට උපාදානය කරගෙන දිගටම තමන් සන්තකයේ පවත්වාගෙන යන්නට තරම් වටිනා, සාරවත්, කිසිවක්ම ලෝකයේ නැති බව අවබෝධ කරගනී. එවන් ලෝකයක් පවත්වා ගන්නට දරණ උත්සාහයම දුකක් බවත්, අනාථ වීමක් බවත් තේරුම් ගනී. "නච කිංචි ලෝකේ උපාදියති" යන පද වලින් මහා සතර සතිපට්ඨාන සූත්‍රයේ විසිඑක් (21) වරක්ම, අවධාරණයෙන්ම සඳහන් කර ඔබට අවබෝධ කරදෙන්නට උත්සාහ ගන්නේ මේ ලෝකයේ නියත ධර්මතාවය වූ "අනිච්ච, දුක්ඛ, අනත්ථ'' යන ත්‍රිලක්ඛණයයි. "අනිත්‍යයි, දුක්ඛයි, අනාත්මයි" යන්න වැරදි භාවිතයකි. වැරදි පරිවර්තනයකි.

මේ ප්‍රකාශය බුද්ධ දේශණාවේ හරයයි. ලෝකයක් නිර්මාණය කර බිහි කරගන්නට, ලෝකයක් දිගින් දිගටම ජීවමානව පවත්වාගෙන යන්නට උපකාර වන්නේ තමන්ගේම සිතේ පවතින රාග ගතිය, ද්වේෂ ගතිය හා මෝහ ගතිය නිසා උපත ලබන සමුදය ධර්මයන්ය. රාග ගතිය, ද්වේෂ ගතිය, මෝහ ගතිය සහමුලින්ම සිතින් ප්‍රහාණය කර දමා සමුදය බිහිවීම නවතා දැමීම "නිරෝධ" කිරීම යන්නයි. නිර්උදා කිරීම යනු මෙයයි. නැවත නොඋපදින ලෙසින්ම අනුත්පාද වශයෙන්ම සමුදය නිරෝධ කිරීම නිස්සරණප් ප්‍රහාණයයි. එයම නිබ්බාන යන අදහසයි.

සතර සතිපට්ඨාන සූත්‍රයේ "යාවදේව ඥාණ මත්තාය, පතිස්සති මත්තාය" යනුවෙන් දේශණා කළ දේම ධම්මචක්කපවත්තන සූත්‍රයේ ''චක්ඛුං උදපාදි, ඥාණං උදපාදි, පඤ්ඤා උදපාදි, විජ්ජා උදපාදි, අලෝකෝ උදපාදි" යනුවෙන් දොළොස් වරක්ම සඳහන් කර ඇත. චිත්තසංථානයක ගබඩා වී පවතින කෙළෙස් ප්‍රහාණය කර, ඉවත් කර දමන විට දහම් ඇස පහදයි. ඥාණය උපදී. සිත පහදී. ප්‍රඥාව උපදී. විනිවිද බැලීමේ ශක්තිය උපදී. (විජ්ජා උදපාදි) ලෝකය අතහැර අලෝක තත්ත්වයට පත් වෙයි. මෙතෙක් උපාදානය කරගෙන සිටි ලෝකය අතහරී. රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් මෙතෙක් අල්ලා උපාදානය කරගෙන සිටි ලෝකය අතහැර ලෝකයෙන් මිදී නිදහස් වීමයි. එවිට අලෝක තත්ත්වයට පත් වෙයි.

"කායේකායානුපස්සී විහරති, කායස්මිං විහරති" යනුවෙන් මහා සතරසතිපට්ඨාන සූත්‍රයේ ඉතා පැහැදිළිවම පෙනවා දුන්නේ ක්‍රියාවේ වේගය අනු කොටස්වලට බෙදා බලා ක්‍රියාවේ වේගය පහ කිරීමෙන් ක්‍රියාවේ වේගය පාලනය කරගනිමින් ක්‍රියාවේ වේගය සංසිඳවා ගැනීමයි. ක්‍රියාවේ වේගය සංසිඳවා ගැනීමෙන් සිත මත්වීමේ වේගය මත් ස්වාභාවය සංසිඳවා සිත සංවර කර ගැනීමයි. සිත සංසුන් කරගැනීමයි. සිත ''සංමා'' (සම්මා) තත්ත්වයට පත්කර ගැනීමයි. "විහරති" යනු විහාරය යනු විහරණය යන අර්ථයයි.

ක්‍රියාවේ වේගය පාලනය කරගනිමින්, සිත ශික්ෂණය කරගනිමින්, සිත සංසුන් කරගනිමින්, ඉන්ද්‍රියයන් හය සංවර කරගනිමින් වාසය කිරීම "විහරති" යන්නයි. විවේක නිස්සිතව වාසය කිරීමයි.

මහා සතරසතිපට්ඨාන සූත්‍රයේ පෙන්වා වදාළ පරිදි තුදුස් (14) අවස්ථාවකදී පියවර 14 කින්ම ක්‍රියාවේ වේගය සංසිඳවිය යුතුය. "කායේකායානුපස්සී විහරති, කායස්මිං විහරති" යනුවෙන් පෙන්වා වදාළේ මේ 14 අවස්ථාවයි.

1. ආනාපාන පබ්බයේදී - ආශ්‍රය කළයුතු හා ආශ්‍රය නොකර බැහැර කළ යුතු යයිද දෙකොටසකට අරමුණු වෙන්කර, බෙදා බලා ආශ්‍රය කිරීම හා ප්‍රහාණය කිරීම මින් අදහස් කෙරේ. (අස්සසති, පස්සසති යනු මෙයයි)
2. ඉරියාපථ පබ්බයේදී - නිසින්නෝවා, ගච්චන්නෝවා, ඨිතෝවා, සයානෝවා යන ඉරියව් හතරේදීමත් ආශ්‍රය කළ යුතු දේ හා ආශ්‍රය නොකළ යුතු දේ යන අරමුණු දෙකොටස වෙන්කර, දැක බලා ආශ්‍රය කිරීම හා ප්‍රහාණය කිරීම කළ යුතුය.
3. සම්පජඤ්ඤ පබ්බය - සම්පජානකාරී හෝති යන්නයි. සමුදය ප්‍රජනනය (බිහිවෙන) වන හැම ක්‍රියාවකදීම "සං" ප්‍රජනනය වන ආකාරය දැක "සං" ප්‍රහාණය කිරීමයි.
4. පටික්කූල මනසිකාර පබ්බය - කේසා, ලෝමා, නඛා, දන්තා ආදී කුණප කොටස් 32 මෙනෙහි කිරීමයි. ඒ මඟින් සත්ත්ව, පුද්ගල ඝන සංඥාව දුරු වෙයි. ඒ නිසා ක්‍රියාවේ වේගය සංසිඳවා ගත හැකි වෙයි.
5. ධාතු මනසිකාර පබ්බය - ආපෝ, තේජෝ, වායෝ, පඨවි, ආකාස, විඤ්ඤාණ යන ධාතු හය හා සතර මහා භූත වෙන් කොට, දැකබලා ක්‍රියාවේ වේගය සංසිඳවා ගැනිමයි.

6-14. නවසීවතික පබ්බයේදී නව වරක්ම මේ ශරීරය මරණයට පත් වීමෙන් විපරිණාමයට පත් වී, විනාශ වී යාම නව අවස්ථාවකදී මෙනෙහි කර කායේ කායානුපස්සනාව අවබෝධ කර ගැනීමයි. ක්‍රියාවන්ගෙන් තොර වූ විට කඳක ස්වභාවය අවබෝධ කරගැනීමයි.

15. ''වේදනාසු වේදනානුපස්සී විහරති වේදනාස්මිං විහරති'' මෙහි සටහන්ව ඇත්තේ "පජානාති" යන වචනයයි. සැප වේදනාව සැප වේදනාවක් විඳීම යැයි ද, දුක් වේදනාව දුක් වේදනාවක් විඳීම යයිද, ආමිස වේදනාව නිරාමිස වේදනාව යථාපරිදි දැන ගැනීමත්, දැනගෙන අනවශ්‍ය ආමිස වේදනා කොටස ප්‍රහාණය කිරීමත් අවශ්‍ය නිරාමිස සුවය විඳීමත්ය. එය වේදනාසු වේදනානුපස්සනාවයි. පජානාති යනු නිවැරදි දැනුම ලැබීමයි.
16. චිත්තේ චිත්තානුපස්සී විහරති යන්නෙහි ඇත්තේද පජානාති යන වචනයයි. පජානාති යනු යථාවබෝධයෙන් සතියෙහි පිහිටා සිතෙහි ප්‍රජනනය වන, මතුවන අරමුණ නිසි පරිදි දැන තේරුම් ගැනීමයි. සරාගී සිත, වීතරාගී සිත වෙන් කොට දැන ගැනීම, ද්වේෂ සිත, වීතද්වේශි සිත වෙන් කොට දැන ගැනීම ආදී වශයෙන් සිත් 16 (යුගල අටක්) වෙන් කොට දැන තේරුම් ගෙන ප්‍රහාණය කළයුතු සිත් නිරෝධ කිරීමත්, භාවිතා කළ යුතු සිත් භාවිතා කිරීමට පුරුදු වීමත් මෙම චිත්තානුපස්සනාවෙහි දී පෙන්වා දී ඇත.

මෙහිදී ප්‍රහාණය කිරීම සඳහා විශේෂයෙන් කළ යුත්තක් නැත. කායේ කායානුපස්සනාවට අනුවම සිත් වෙන්කර දැක භාවිතයට ගැනීම පමණක් කළ යුතුය.

17-21. පබ්බ පහක්ම අයත් වන්නේ ධම්මේසු ධම්මානුපස්සනාවටය. පංච නීවරණ ධර්මයන් වන කාමච්ඡන්දය, ව්‍යාපාදය, ථිනමිද්ධය, උද්ධච්චය, විචිකිච්චාව යන නිවන ආවරණය කරගෙන සිටින ධර්මයන් සිතින් ඉවත්කර නෙක්ඛම්ම සිත, අව්‍යාපාද මෙත්සිත පැතිරීම, අලෝක සංඥාව මතුකර ගැනීම, අවික්ඛේප සිතක් ඇතිකර ගැනීම, සතියෙහි පිහිටා ක්‍රියා කරන්නට ධම්ම වවත්ථාන තත්ත්වයට සිත පත්කර ගැනීම (හේතුඵල ධර්මයට බහා ගළපා ක්‍රියා කරන්නෙකු වීම) මෙහිදී ඉටු කරගත යුතුය.

18. පංච උපාදානස්කන්ධයේ කොටස් පහ වෙන්කොට දැක බලා රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යනුවෙන් පෙන්වා වදාළ උපාදානය කරගත හැකි දේවල ඇති අනිච්ච බව, දුක්ඛ බව, අනත්ථ බව, අසුබය මෙනෙහි කර පංචඋපාදානස්කන්ධයෙන් මිදීමට හැකිවිය යුතුය.

19. අධ්‍යාත්මික ආයතන හය (ඇස, කන, නාසය, දිව, කය, මනස) හා බාහිර ආයතන හය (රූප, ශබ්ද, ගඳ, සුවඳ, රස, සුව පහස හා ධම්ම) වෙන් කර අනුපස්සනා කරමින් ඒවායේ ක්‍රියාකාරීත්වය නිසා උපත ලබන වේගය, රත්වීම, මත්වීම පාලනය කරගන්නට අනුගමනය කළයුතු වැඩපිළිවෙළයි. සමුදය බිහිවන අවස්ථාවේදීම සමුදය නිරෝධ කිරීමෙන් ක්‍රියාවේ වේගය පාලනය කර ඉන්ද්‍රියයන් හයම සංවර කරගත හැකිවීම මෙහිදී අවබෝධ කරගත යුතු දේයි.

20. සත්ත බොජ්ඣංග (සති සම්බොජ්ඣංගයේ පටන් උපේක්ඛා බොජ්ඣංගය තෙක්) සම්පූර්ණ කර ගැනීම මෙහිදී විග්‍රහ කරන ලදී. බොජ්ඣංග ධර්ම වැඩීම යනුවෙන් අදහස් කරන ලද ක්‍රියාවලිය බොහෝමයක්ම දෙනෙකු නිවැරදිව අවබෝධ කරගෙන නැත. බෝධි අංග - බොජ්ඣගේසු යනු රාග, ද්වේෂ, මෝහ නමැති පැවැත්ම යළි යළිත් බිහි කරන කිළිටි ශක්තිය උදුරා දැමීමයි. හත් අවස්ථාවේදීම සමුදය බිහි කිරීමේ ශක්තිය ප්‍රහාණය කර දමා චිත්තසංථානය පිරිසිදු කර ගත යුතුය. බොජ්ඣංග යනු අවබෝධ යන අර්ථය නොවේ.

21. චතු අරිය සත්‍යයන් - ධම්මේසු ධම්මානුපස්සී විහරති චතුසු අරිය සච්චේසු

   i. දුක්ඛ අරිය සත්‍යය - ඉදං දුක්ඛන්ති යථාභූතං පජානාති. පරිඤ්ඤෙය්‍යන්ති - පරිඤ්ඤාතන්ති
   ii. සමුදය අරිය සත්‍යය - අයං දුක්ඛ නිරෝධෝති යථාභූතං පජානාති - පහාතබ්බන්ති - පහීනං
   iii. නිරෝධ අරිය සත්‍යය - අයං දුක්ඛ නිරෝධෝති යථාභූතං පජානාති - සච්ඡිකාතබ්බන්ති - සච්ඡිකරෝති
   iv. නිරෝධ ගාමිණී මාර්ග සත්‍යය, අයං දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාති යථාභූතං පජානාති, භාවේතබ්බං ච - භාවිතං.

මේ චතු අරිය සත්‍යයන් අවබෝධ කරගන්නට නියත වශයෙන්ම උපකාර වන තිපරිවට්ටයයි.

මේ අවස්ථා 21 හිදීම යථාපරිදි අවබෝධ කරගතයුතු වන්නේ "අනිස්සිතෝච විහරති, න ච කිංචි ලෝකේ උපාදියති" යන නියත ධර්ම ස්වභාවයයි. නිවන් අවබෝධය යනුද ඒ යථාවබෝධය ලැබීමමයි. උපාදානය කරගත්, සිතින්ම අල්ලාගෙන, බදාගෙන සිටින්නේ මෙවන් නොවටිනා කෙළෙස් පොදියකි. පලිබෝධ රාශියකි. මේ බව යථාපරිදි තේරුම් ගැනීමට සතර සතිපට්ඨාන භාවනා ක්‍රමය හැර වෙනත් සම්පූර්ණ ක්‍රමවේදයක් බුද්ධ දේශණාවෙන් වෙනත් තැනකදී හෝ පෙන්වාදී නැත. මේ අනුව සතර සතිපට්ඨාන වැඩීම බුද්ධ දේශණාවේ හරයයි.

## ද්වතාව, ද්වතා අනුස්සතිය හා සතර සතිපට්ඨානය

"සතර සතිපට්ඨාන භාවනාව ප්‍රගුණ කිරීම" යනුවෙන් බුද්ධ භාෂිතයේ එදා විග්‍රහ කර පෙන්වා වදාළ ප්‍රායෝගික ක්‍රියාවලිය පෙළ දහමේ එන මාගධී පදවැල් ඉගෙන ගැනීමෙන් හෝ කටපාඩම් කර ගැනීමෙන් හෝ පමණක්ම ඉෂ්ඨ සිද්ධ කරගත හැකි දෙයක් නොවේ. මහා සතරසතිපට්ඨාන සූත්‍ර දේශණාව පදයක් පදයක් නැර කටපාඩමෙන්ම සජ්ඣායනා කරන්නටත් ඒ පදවැල් මතකයෙන්ම ගායනා කරන්නටත් දැන ඉගෙන ගත් පමණින්ම කෙනෙකුගේ සිත සතර සතිපට්ඨානයෙහි පිහිටන්නේ ද නැත. "පට්ඨාන" යනු සිත "පදම් කරගැනීම" යන අර්ථය ඇති පදයකි. සතියෙහි පිහිටා සතියෙන් කටයුතු කිරීමට දැන තේරුම් ගෙන ඒ අනුව නිරතුරුවම ක්‍රියා කරන්නට තමන්ගේම සිත පුරුදු කරගැනීම, පුහුණු කර ගැනීම, සිත පදම් කර ගැනීම සතර සතිපට්ඨාන භාවනාව කිරීමයි. සතියෙහි පිහිටා සතියෙන් කටයුතු කරන්නට පුරුදු කරගත්, පුහුණු කරගත් සිතක් භාවිත සිතක් ලෙසද හැඳින්විය හැකිය. අසතියෙන් කටයුතු කරන කෙනෙකුගේ සිත අභාවිත සිතක් ලෙසද හැඳින්විය හැකිය.

මේ අනුව සතියෙන් ක්‍රියා කිරීම හා අසතියෙන් ක්‍රියා කිරීම මෙන්ම භාවිත සිතක් හා අභාවිත සිතක් යන්න පිළිබඳවත් මැනවින් දැනගත යුතුය. "සති, අසති" යන මාගධී පද යුගලය "සිහිය අසිහිය" යනුවෙන් වැරදි ලෙසින් සිංහලයට පරිවර්තනය කර අද වන විට භාවිතා කරන බව පෙනේ. "සති" යන මාගධී පදය "ස්මෘති" (සංස්කෘත පදයක්) ලෙසින් වැරදියට පරිවර්තනය කරගෙන භාවිතා කරන බවද ත්‍රිපිටකයේ සිංහල පරිවර්තනයේ බොහෝමයක් තැන්වලදී දැකගත හැකි වෙයි. "සති" "අසති" යන මාගධී පදවලින් බුද්ධ භාෂිතයේදී අර්ථ දැක්වූයේ මීට වඩා ඉතාමත් ගැඹුරු අදහසකි. හේතුඵල දහමට බහා ගළපා බලා හේතුව හා ඵලය යන දෙකම පිළිබඳව සත්‍යාවබෝධයෙන් යුතුව කටයුතු කරන්නට පුරුදු වීම සතියෙන් ක්‍රියා කිරීමයි. සතියේ පිහිටා ක්‍රියා කිරීමයි. හේතුඵල පිළිබඳව නොසළකා හිතට වහල් වී, හැඟීමට වහල් වී ක්‍රියා කිරීම "අසති"යෙන් ක්‍රියා කිරීමයි.

යම් වචී සංඛාරයක්, කාය සංඛාරයක් හෝ චිත්ත සංඛාරයක් ක්‍රියාත්මක කරන්නට පෙර ඒ සංඛාරය ක්‍රියාත්මක කිරීම නිසා තමන්ට හෝ බාහිර ලෝකයාට හෝ උරුම වන

ඵලය විපාකය පිළිබඳවත් සළකා බලා ඒ ඵලය අයහපත් නම් සංඛාරය ක්‍රියාත්මක කිරීම හෝ නොකරම අත්හැර දැමීම හෝ කළ හැකි නම් එය සතියෙන් යුතුව ක්‍රියා කිරීමයි. තමන් කරන, කියන, හිතන දේ හේතුව කොට තමාටම යම්කිසි නිවීමක්, සැනසීමක්, මිදීමක්, බානෙන් ගැළවීමක් ඵලය ලෙසින් සිදු වෙයි නම් ඒ හේතුව ක්‍රියාත්මක කළ යුතුය. තමන් කරන, කියන, හිතන යම් දෙයක් හේතුව කොට බාහිර පුද්ගලයෙකුට, සත්ත්වයෙකුට යම්කිසි නිවීමක්, සැනසීමක්, මදයෙන් මිදීමක්, බානෙන් ගැළවීමක් ඵලය ලෙසින් උරුම වෙයි නම් ඒ හේතුව ක්‍රියාත්මක කිරීමද කළ යුතුය.

තමන් කරන යම් හේතුවක් නිසා එහි ප්‍රතිඵලය ලෙසින් විපාකය ලෙසින් තමා තුළම රත් වීමක්, මත් වීමක්, සිත විසිරීමක්, සිතේ ආවේගයක්, අසහනයක්, අතරමං වීමක් හෝ බානෙන් බැඳීමක් සිද්ධ වේ නම් ඒ හේතුව නොකර, හේතුව අත්හැර, ඉන් මිදී නිදහස් විය යුතුය. එමෙන්ම තමන් කියන, කරන, හිතන දේ නිසා බාහිර පුද්ගලයෙකුට සත්ත්වයෙකුට හිංගියක්, හිංසාවක්, අසහනයක්, සසර අතරමං වීමක් හෝ බානෙන් බැඳීමක් හෝ සිදු වෙයි නම් ඒ හේතුව ද අත්හැර ඉන් මිදී නිදහස් විය යුතුය. ඒ ආකාරයට සත්‍යාවබෝධයෙන් ධර්මයට, සූත්‍රයට බහා ගළපා බලා, විනයට සසඳා බලා කටයුතු කරන්නට පුරුදු පුහුණු වීම සතියෙහි පිහිටා සතියෙන් ක්‍රියා කිරීමයි.

මේ අනුව තමන් කරන, කියන, හිතන සෑම දෙයක් පිළිබඳවම නිසි අවධානයෙන් පසු වී ඒ සිතිවිල්ල දිගටම සිතිය යුතුද නැද්ද, ඒ කථාව කළ යුතු එකක්ද නැද්ද, ඒ ක්‍රියාව ක්‍රියාත්මක කළ යුතුද නැද්ද යන්න ඒ ක්‍රියාව කරන්නට පෙරදීම තීරණය කරන්නට හැකි නම් එය සතියෙහි පිහිටා, සතියෙන් ක්‍රියා කිරීමයි. හේතුඵල දහමට බහා ගළපා බලා සතියෙන් කටයුතු කිරීමයි. ධර්මයට, සූත්‍රයට නොගැළපේ නම්, විනයට නොසැසඳේ නම් එය සිතින්ම ඉවත් කර ගැනීමත් එය ධර්මයට ගැළපේ නම්, විනයට සැසඳේ නම්, එය ක්‍රියාත්මක කිරීමත් සතියෙහි පිහිටා සතියෙන් ක්‍රියා කිරීමයි.

සතියෙන් ක්‍රියා කරන්නට පුරුද්දක් හෝ ශික්ෂණයක් හෝ නැති පෘථග්ජන පුද්ගලයා හැම අවස්ථාවකදීම යමක් පිළිබඳව ක්‍රියා කළ යුතුද නැද්ද, කථා කළ යුතුද නැද්ද, සිතිවිලි පැවැත්විය යුතුද නැද්ද යන්න තීරණය කරන්නේ හැඟීමට වහල් වී, හිතට වහල් වී, ප්‍රිය අප්‍රිය යන මැනීමට අන්ත දෙකට ඇලීමෙන් හෝ ගැටීමෙනි. ඇස, කන, නාසය යනාදී ඉන්ද්‍රියන් පිනවන්නා වූ ප්‍රිය දෙයක් නම් ලාභයක්, ආස්වාදයක් තමන්ටම ආපසු ප්‍රතිලාභ ලෙසින් ලබා ගන්නට හැකි නම් ආදීනව, ආනිසංස හෝ හේතුඵල හෝ ගැන නොබලාම නොසිතාම ක්‍රියා කරන්නට ඇති පුරුද්ද අසතියෙන් ක්‍රියා කරන පෘථග්ජන පුද්ගලයාගේ පුරුද්දයි. ප්‍රිය, අප්‍රිය යන පුරුදු දෙකම ගති දෙකම තමන් හුරු පුරුදු කරගත් තමා තුළම පවතින ගති දෙකක් මිස පුරුදු දෙකක් මිස කාටත් එක සේ පොදු, සාධාරණ ධර්මතාවයක් නොවේ. මෙවන් ගති තමන් තුළම පවතින බව තමන්ම නොදන්නාකම අවිද්‍යාවයි. ප්‍රිය දේට ඇලීමත්, අප්‍රිය දේට ගැටීමත්, මානයෙන් මුළා වීමත් තමන්ම පුරුදු කරගත්, තමා තුළම මුල් බැසගත් පුරුදු හතරක් (චතු වොහාරේසු) බව යථා පරිදි නොදැනීම අවිද්‍යාවට තණ්හාවට හා මෝහයටත් හේතුවයි. තමන් කල් ඇතිවම ප්‍රිය යැයි තීරණය කළ දේට ඇලෙන්නේ, බැඳෙන්නේ, සම්බන්ධ වන්නේ, තණ්හාව ඇති

කරගන්නේ, උපාදානය කරගන්නේ තමා තුළ ඇති ගති පුරුදු නිසාමයි. ඒවාගේම තමන් අප්‍රිය යැයි කලින්ම තීරණය කරගත් යම් යම් දේවල් සමඟ ගැටෙන්නේ, වෛර කරන්නේ, තරහ යන්නේ, ඒවාට ඊර්ෂ්‍යා කරන්නේද තමා තුළම පුරුදු කරගත් ගතියක් නිසාය. තමන් ප්‍රිය දේට මිහිරි දේට කැමති දේට ඇලීමත්, තමන් අකමැති අප්‍රිය දේට අමිහිරි දේට ගැටීමත් පෘථග්ජන ගතියයි. මේ ගති සංසාර පුරුදු ලෙසින් තමන්ම පුරුදු කරගෙන දිගටම සංසාර රිය ගමනේ අතීතයේ පටන් පවත්වා ගෙන ආ බවත්, ඉදිරියටත් පවත්වාගෙන යාම නිසා සංසාර ගමන සිදු වන බවත් තේරුම් ගන්නට නොහැකි වීම පෘථග්ජන ස්වභාවයයි.

බුද්ධ දේශණාවට අනුව "පරිමුඛං සතිං උපට්ඨපෙත්වා" යනුවෙන් මහා සතරසති පට්ඨාන සූත්‍රයේ පෙන්වා වදාළ පරිදි සතියෙහි පිහිටා තම චිත්තසංථානයට අරමුණු වන සියලු අරමුණු පිළිබඳව අවධානයෙන් යුතුව කටයුතු කිරීමට මිනිසෙකුට පුරුදු විය හැකිය. යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන්නට පුරුදු වීම යනුද මේ අදහසමයි. එසේ නොකරන මිනිසා අමනසිකාරයෙන්, අයෝනිසෝමනසිකාරයෙන්, අසතියෙන් ක්‍රියා කරන්නෙකි. එවන් කෙනෙකු අතින් පාපකාරී, ළාමක, අකුසල් ක්‍රියා නිතරම සිදු විය හැකිය. දෛනිකව එදිනෙදා සාමාන්‍ය දිවි පැවැත්මේදී ඔබ කරන, කියන, හිතන සියලු දේ කරන්නේ, කියන්නේ, හිතන්නේ යෝනිසෝමනසිකාරයෙන්ද, සතියෙහි පිහිටාද එසේත් නැත්නම් අයෝනිසෝමනසිකාරයෙන්, අසතියෙන්ද යන්න මැන බැලීමට තරම් දැනුමක්, නුවණක් ඔබේ මනස තුළම ඔබටම සකස් කර ගත හැකිය. ඔබේ යහපත සඳහා ඔබේ නිවීම සඳහා ඔබට දුකින් මිදී නිදහස් වීම සඳහා මෙතරම් උපකාර කරගත හැකි වෙනත් වටිනා කිසිවක් මේ මිහිපිට නැති බව සිතන්න.

"ද්වතා අනුස්සතිය" ලෙසින් බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ මේ උතුම් පිළිවෙත අද භාවිතයෙන් ගිලිහී ගොස් ඇත. මෙනෙහි කළ යුතු දේ මෙනෙහි කිරීමත්, මෙනෙහි නොකළ යුතු දේ අතහැර නිදහස් වීමත්, ආශ්‍රය කළයුතු අරමුණු ආශ්‍රය කිරීමත්, ප්‍රහාණය කළයුතු දේ සිතින් බැහැර කිරීමත්, සේවනය කළයුතු දේ සේවනය කිරීමත්, අසේවනය කළයුතු දෑ අත්හැර මිදී නිදහස් වීමත් ද්වතා අනුස්සතියයි. ද්වේධා විතක්ක සූත්‍රය, ද්වය සූත්‍ර, ද්වයකාරී සූත්‍ර, ද්වයතායානු පස්සනා සූත්‍රය, ද්විධාපත සූත්‍රය, සේවිතබ්බා අසේවිතබ්බා සූත්‍රය හා ඉතාම වැදගත් අනාපානසති සූත්‍රයත් දේශණා කර වදාළේ මේ ද්වතාවය විග්‍රහ කර පෙන්වීම සඳහාමය. ආන-පාන යනු ද්වතාවකි. අස්ස-පස්ස යනුද ද්වතාවයි. අස්ස යනු ඇසුරු කළයුතු, ආශ්‍රය කළ යුතු යහපත් දේයි. පස්ස යනු ප්‍රහාණය කළයුතු, බැහැර කළයුතු අයහපත් දේයි. ආශ්වාස, ප්‍රශ්වාස යන සංස්කෘත භාෂාවෙන් ණයට ගත් වැරදි පද දෙකක් අද පදපරම ලෙසින් මේ "අස්ස පස්ස" විග්‍රහ කිරීමට යොදාගෙන ඇත.

මහා චත්තාරීසක සූත්‍රයේ "දුවිධෙනං වදාමි" යැයි සම්මා දිට්ඨියේ ද්වතාව පෙන්වා දී ඇත. සේවිතබ්බා අසේවිතබ්බා සූත්‍රයේද, " දුවිධෙන වදාමි" යන්න ඉතාම පැහැදළිව දේශණා කර වදාරා ඇත.

කායසමාචාරම්පහං දුවිධෙන වදාමි
සේවිතබ්බම්පි - අසේවිතබ්බම්පි
වචීසමාචාරම්පහං දුවිධෙන වදාමි

සේවිතබ්බම්පි - අසේවිතබ්බම්පි
මනෝසමාචාරම්පහං දුවිධෙන වදාමි
සේවිතබ්බම්පි - අසේවිතබ්බම්පි
චිත්තුප්පාදම්පහං දුවිධෙන වදාමි
සේවිතබ්බම්පි - අසේවිතබ්බම්පි
සඤ්ඤාපටිලාභම්පහං දුවිධෙන වදාමි
සේවිතබ්බම්පි - අසේවිතබ්බම්පි
දිට්ඨිපටිලාභම්පහං දුවිධෙන වදාමි
සේවිතබ්බම්පි - අසේවිතබ්බම්පි
අත්තභාවපටිලාභම්පහං දුවිධෙන වදාමි
සේවිතබ්බම්පි - අසේවිතබ්බම්පි

මෙහි "සේවිතබ්බම්පි හා අසේවිතබ්බම්පි" ලෙසින් විග්‍රහකර පෙන්වා වදාළ "ද්වතාව" යථාපරිදි තේරුම් ගත් මිනිසෙකුට නම් මග්ගේ මග්ග (මග හා අමග) ඥාණ දර්ශනයද ලබාගත හැකිය. මග්ගේ මග්ග ඥාණ දර්ශනය නොලැබූ පුද්ගලයා සම්මා දෘෂ්ඨිය හා මිච්ඡා දෘෂ්ඨිය වෙන්කර තේරුම් නොගත් පුද්ගලයෙකි. යෝනිසෝ මනසිකාරය හා අයෝනිසෝමනසිකාරය යන්නද වෙන්කොට දැනගත්, දැකගත් කෙනෙකු වන්නේද නැත.

ප්‍රිය, අප්‍රිය අන්ත දෙකම අත්හළ යුතු බවත් (උභෝ අන්තේ අනුපගම්ම) උපේක්ඛා සිතින්ම කටයුතු කිරීම, මීදීමේ පටිපදාව (මා පටිපදා) බවත් බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ ද්වතාවයි.

ද්වතා අනුස්සතිය අද වන විට දස අනුස්සති අතරෙන් ද ගිළිහී ගොසින් බෞද්ධ උගතුන් අතරේ පවා භාවිතා නොවන තත්ත්වයට පත් වී ඇත. බුද්ධ කාලයේ මෙන්ම අනුරාධපුර යුගයේද භාවිතා වූ ද්වතා අනුස්සති භාවනාව පොළොන්නරු යුගය වන විට දේව ආගම් සංකල්පවලට යට වී "දේවතා අනුස්සතිය" ලෙසට වෙනස් කරගෙන භාවිතා කරන්නටත් පටන් ගෙන ඇත. මේ නිසාම මුල් ත්‍රිපිටකයේ ලියා තිබූ ''ද්වතා අනුස්සතිය'' පොළොන්නරු, දඹදෙනි යුගවලදී ලියූ ත්‍රිපිටක ග්‍රන්ථවල පවා ''දේවතා අනුස්සතිය'' ලෙසින්ම පාලි බසින්ද ලියා දක්වා ඇත. මේ අනුව නිවන් අවබෝධ කරගන්නට අත්‍යවශ්‍ය වූ මග්ගේ මග්ග ඥාණ දර්ශනය හෝ සම්මා දෘෂ්ඨිය හෝ ලබා ගන්නට නොහැකි තත්ත්වයෙන්ම, පදපරම අර්ථයෙන්ම ධර්මයද විකෘති විය.

අවිද්‍යා මූල පටිච්ච සමුප්පාද ධර්ම විග්‍රහය මඟින් විස්තර කර, විග්‍රහ කර පෙන්වා වදාළේ සංසාර ගැටළුව යළි යළිත් සකස් කරන්නා වූත් සසරට පුද්ගලයා බැඳ තබන්නට නියත වශයෙන්ම හේතුවන්නා වූත් සමුදය බිහි කරන ක්‍රමවේදය පුද්ගලයෙකු, සත්ත්වයෙකු තුළම ක්‍රියාත්මක වන ආකාරයයි. ප්‍රිය, අප්‍රිය දේට පටිච්ච වීම හේතුව ලෙසත් සමුදය ධර්මයක් බිහි වීම (සං උත්පාදනය) ඵලය ලෙසත් පැහැදිළිවම මෙහිදී පෙන්වා වදාරා ඇත.

සමුදය බිහිනොකරන්නට නම් සමුදය නිරෝධ කරන්නට නම් "පටිච්චවීම" යනුවෙන් පෙන්වා වදාළ හේතුවම "න පටිච්ච" තත්ත්වයට පත්කළ යුතුය. ප්‍රිය දේට අන්තවාදී ලෙසින් අභිච්ඡාවෙන් නොබැඳෙන්නේ නම්, අප්‍රිය දේට ද්වේෂයෙන් නොගැටෙන්නේ නම්, මෝහයෙන්, මානයෙන් මුළා නොවන්නේ නම්, ඒ "න පටිච්ච" වීමයි. "න පටිච්ච" යනු කැමැත්තට නොබැඳීමත්, අකමැත්තට නොගැටීමත්, මානයෙන් ක්‍රියා නොකිරීමත්ය. උපේක්ඛා සිතින් ඉවසා, විමසා කටයුතු කිරීමත්ය.

සතියෙහි පිහිටා සත්‍යාවබෝධයෙන් කටයුතු කිරීම මඟින් සමුදය නිරෝධ කරන්නටත්, කුසලමූල පටිච්ච සමුප්පාද ධර්මයේ පෙන්වා වදාළ කෙළෙස් මුල් සිඳ දමා අනුප්පාද නිරෝධයට පත් වන්නටත් මිනිසෙකුට කටයුතු කළ හැකිය.

අසතියෙන්, අමනසිකාරයෙන් ක්‍රියාකරන හේතුඵල ධර්මය ගැන නොදන්නා හේතුඵල ධර්මය නොතකා ක්‍රියාකරන හැම අවස්ථාවකම හැම පෘථග්ජන පුද්ගලයාම තමන් ප්‍රිය කරන දේට බැඳීම, ඇලීම නිසාත්, අප්‍රිය කරන දේ සමඟ ගැටීම, තරහ වීම, වෛර කිරීම නිසාත් පටිච්ච වීමක් සිදු වෙයි. සිතින්ම පටිච්ච වීමේ නියත ප්‍රතිඵලය වන්නේ "සං උපත" ලබා, "සමුදය" බිහි වී, සංසාර දුකට බැඳීමයි. සමුදය බිහි වන්නේ නම් එතැන සතියෙහි පිහිටා ක්‍රියා කිරීමක් හෝ සතර සතිපට්ඨානයෙන් ක්‍රියා කිරීමක් හෝ සිදු වන්නේද නැත.

අවිද්‍යාව නිසා, තණ්හාව නිසා, සමුදය බිහි වීමත්, සමුදය බිහි වීම නිසා සිතෙහි කාම විතර්ක, ව්‍යාපාද විතර්ක, විහිංසා විතර්ක මතු වීමත් සමඟම සිත කෙළෙස් සහිත කිළිටි සිතක් බවට පත් වීමත්, පාප කර්ම, ළාමක ක්‍රියා කිරීම නිසා, අකුසල් සිතක් බවට පත් වීමත් එහි නියත ප්‍රතිඵලයකි. ඒ අනුව චිත්තසංථානය කිළිටි වෙයි. මනස මෝහයෙන් මුවහ වී මොට්ට වෙයි. යෝනිසෝමනසිකරණ ශක්තිය දුර්වල වී මඟ නොමඟ, හොඳ නරක තේරුම් ගැනීමට නොහැකි තත්ත්වයටම පුද්ගලයා පත් වෙයි.

චතු අරිය සත්‍යයන් අවබෝධකර ගැනීමටත්, සම්මා දිට්ඨියට පත් වීමටත්, මග්ගේ මග්ග ඥාණ දර්ශනය ලබා ගන්නටත්, කෙළෙස් ප්‍රහාණය කර චේතෝ විමුක්තියට පත්වන්නටත්, අවිද්‍යාවෙන් හා මෝහයෙන් මිදී පඤ්ඤා විමුක්තියට පත්වන්නටත්, නිවන් මාර්ග ඵලයන් සාක්ෂාත් කර ගන්නටත් සතර සතිපට්ඨානයෙහිම පිහිටා ධම්මානුධම්ම පටිපදාවම සම්පූර්ණ කරගත යුතුය. මේ සඳහා උපකාර වන්නේ උගත්කමට හෝ බුද්ධිමත්කමට හෝ වඩා යථාභූත ඥාණ දර්ශනයයි. කෙළෙස් ප්‍රහාණය කරන්නට උපකාර වන අයුරින් සමථ විපස්සනා භාවනා කිරීමයි. ග්‍රන්ථ ධූරය පමණක් ප්‍රගුණ කිරීමෙන් උගත්කම, බුද්ධිමත්කම ලබා ගත්තද බොහෝ විටම ඒ බුද්ධියෙන් මත් වීමද නිවනට පත් වීමට බාධකයක්ම බවට පත් වෙයි. නිබ්බාන යනු බාන ගළවා දමා අත්විඳගත යුතු නිදහසක් මිස අසා දැනගත් පමණින් ඉගෙන ගත හැකි දෙයක් නොවේ.

නිබ්බාන යන මාගධී පදයේ ධර්ම අර්ථය බානෙන්, බැම්මෙන් මිදී නිදහස් වීම යන්නයි. පෘථග්ජන ලෝකයා නොදැනුවත්වම බැමි දහයකින්ම සංසාර රිය ගමනට බැඳී, අතරමං වී ගමන් කරන අය වෙති. ඒ බැමි දහයම තම තමන්ම තමන්ගේ කැමැත්තෙන්ම

සාදා සකස් කරගන්නා බැමි දහයකි. මේ බැමි දහයට "බාන්" දහයට දස සංයෝජන යනුවෙන්ද ධර්මයේ ව්‍යවහාර වෙයි. සක්කාය දිට්ඨි, විචිකිච්චිතා, සීලබ්බතපරාමාස, කාමරාග, පටිඝ, රූපරාග, අරූපරාග, මාන, උද්ධච්ච, අවිජ්ජා යන නම්වලින් අප සම්මතයේ හඳුන්වන මේ බැමි දහය නිසාම අපි සංසාර ගමනට බැඳී සිටී. මේ බැමි දහයම ගලවා ඉවත්කර නැවත නොබැඳෙන ආකාරයට බැමි සකස් නොකරන තත්ත්වයටම සිතින් නිදහස් වීම නිදහස් තත්ත්වයට පත්වීම "නිබ්බාන" යන පදයේ අර්ථයයි.

මේ බැමි දහය හැමදාම එකම ආකාරයකට නිශ්චිත වශයෙන්ම දිගින් දිගටම ස්ථිරවම පවත්වාගෙන යන බැමි දහයක් නොවන බවද තේරුම් ගත යුතුය. මේ බැමි දහයම දෛනිකව ප්‍රතිසංස්කරණය කරගත යුතු, අලුත්වැඩියා කරගත යුතු බැඳීම්ය. රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් ක්‍රියාකරන හැම මොහොතකම කරනු ලබන සංඛාර නිසා සමුදය බිහි වෙයි. සමුදය බිහි වීමත් සමඟම සංවට්ටය සකස් වෙයි. මේ සං වට්ට ක්‍රියාවලිය සිදුවීමත් සමඟම දස සංයෝජනද සකස් වෙයි. සංවට්ටය යනු සංසාර වට්ටයයි. දස සංයෝජන යන අදහසමයි.

නිබ්බේදික පරියාය, ධම්ම පරියාය, වේදිතබ්බෝ පරියාය යනුවෙන් බුද්ධ දේශණාවෙහි පැහැදිළිවම විග්‍රහ කර විස්තර කර පෙන්වා වදාළේ මේ සංයෝජන දහයම එකින් එක ගළවා දමා නැවත මතුවට බැමි සකස් නොකරන ආකාරයට තමාගේ චිත්තසංථානය හා මනස පාරිශුද්ධ තත්ත්වයට පත්කර ගන්නට උපකාර වන ප්‍රතිපදාවයි. පිළිවෙතයි. ධම්මානුධම්ම ප්‍රතිපදාවයි.

කෙළෙස් සහිත වූ අකුසල් සිතක් නිසා තමන්ගේ චිත්තසංථානය අපිරිසිදු වී, අඳුරු වී, කිළිටි වී පවතියි නම් මනස කෙළෙස්වලින් කුණුවලින්, මුවහ වී, මොට්ට වී පවතියි නම් තමා දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ සංසාර වට්ටයද නිරන්තරයෙන්ම සකස් කර ගැනීමද සිදු වෙයි. හේතුව අකුසල් සිතක් තමා තුළම ක්‍රියාත්මක වීමයි. ඵලය සංයෝජන දහයම සකස් වී සංවට්ටය සැකසී සංසාර ගැටළුවට තමන්ම බැඳීමයි.

මිනිසෙකු වී උත්පත්තියක් ලැබූවත් පෘථග්ජන පුද්ගලයෙකුට තම ශක්තියෙන්ම ස්වයංභූ ඥාණයෙන්ම මේ සංසාර ගැටළුවෙන් මිදී නිදහස් විය නොහැකිය. ඊට හේතුව මේ සංසාර ගැටළුවේ නියම ස්වරූපය නියත ස්වභාවය යථාපරිදි තේරුම් ගන්නට නොහැකි ලෙසින්ම ඒ ගැටළුවෙන්ම මනස මුවහකර මොට්ටකර අඥාණ තත්ත්වයට පත්කර තිබීමයි. ජීවිතය පවත්වාගෙන යන්නට හා මතු පැවැත්ම පවත්වා ගැනීම සකස් කර ගන්නටත් යන දෙකටම හේතුකාරක වන්නේ "සං" උපත ලැබීමයි. සමුදයයි. ඇස, කන, නාසය, දිව, කය, මන නැමැති ඉන්ද්‍රියයන් හයම පිනවීමට කරන, කියන, හිතන සියලු ක්‍රියාකාරකම්වලින් "සං" උපත ලබයි. ජීවත්වන හැම පෘථග්ජන පුද්ගලයාගේම ආශාව, කැමැත්ත, අවශ්‍යතාවය සැප, සුව, සුබ දේ හඹා ගොස් ඉන්ද්‍රියයන් පිනවීමයි. මේ ඉන්ද්‍රියයන් පින වීමෙන් ලබන සුවයේ ඇති වීමක්ද නැත. එය අතිත්තෝ වූ (අතෘප්තිකර) දෙයකි. කොපමණම ඉන්ද්‍රියයන් පිනවූවත් තව අඩුවක්, මදිකමක්, හිඟකමක් පැවතීම සෑම පෘථග්ජන සත්ත්වයාගේම නියත ගති ස්වභාවයයි.

තමා තුළින්ම "සං" උපත ලබන ආකාරයත්, සමුදය බිහි වීමට මුල්වන හේතුත් තමා තුළම ක්‍රියාත්මකව පවතින බවත් සංඛාර කරමින් ඉන්ද්‍රියයන් හයම පිනවීමේ කැමැත්තක් (පටිච්ච වීමේ කැමැත්ත) තමන් තුළම පවතින බවත් දැක ගන්නට තරම් පෘථග්ජන ලෝකයාගේ මනස පිරිසිදු නැත. සමුදය නිරෝධ කළ හැකි බවත් ශේෂයක්වත් සමුදය යළි බිහි නොවන්නටම සමුදය බිහි වීමේ ක්‍රමවේදය සහමුලින්ම උදුරා දමා නිදහස් වන්නටත් ක්‍රමයක් ධම්මානුධම්ම පටිපදාවක් ඇති බවවත් තේරුම් නොගැනීම සංසාර ගැටළුව දිගටම පවත්වාගෙන යාමට එකම හේතුවයි.

"ධම්මෝ සංදිට්ඨිකෝ" තත්ත්වයට පත් නොවූ කෙනෙකුට සමුදය බිහිවන ආකාරය නිරවුල්ව, නිවැරදිව තේරුම් ගන්නට නොහැකි වූ කෙනෙකුට "සං" වලින් මිදී "සම්මා" දෘෂ්ඨියට පත්වන්නටත් නොහැකිය. සම්මා දෘෂ්ඨියට පත්වන තුරුම පෘථග්ජන පුද්ගලයෙකුගේ දැක්ම මිච්ඡා දෘෂ්ඨියකි. වැරදි දැක්මකි.

ඔබ රාගයෙන්, ද්වේෂයෙන් හෝ මෝහයෙන් ක්‍රියා කළහොත් යළි කිළිටි වන්නේ ඔබේම චිත්තසංථානයයි. ආගන්තුක උපක්ලේෂවලින් ඔබේ චිත්තසංථානය කිළිටි වන බව දකින්නට ඔබට නොහැකි වන්නේ ඔබේ මනස දුර්වල කර, මනස මොට්ට කර, මනින්ද්‍රියත් මනායතනයක් බවට පත්කර ගැනීමට මේ ආගන්තුක උපක්ලේෂයන් සමත් වන නිසයි. මේ ආකාරයට සං උපත ලබන්නේ සමුදය බිහිවන්නේ බාහිර ලෝකයේ නොවේ. තමන්ගේම ඇසින් දකින රූපය ප්‍රිය එකක් නම් ඒ ප්‍රිය රූපයට ඇලුණොත්, ප්‍රිය රූපයට තණ්හා වුණොත්, ප්‍රිය රූපය උපාදානය කරගන්නට සංඛාර කළොත් එතැනදී සිදු වන පටිච්ච වීම නිසා "සං" බිහිවෙයි. "සංභවන්ති" = සංභව යනු මේ සමුදය බිහි වීමයි. ඒ උපාදානය කරගත්, අල්ලා ගත් ප්‍රිය රූපය, ඒ ප්‍රිය ආකාරයෙන්ම පවත්වා ගන්නට නිශ්චය වශයෙන්ම කැමැත්තක් සිතේ ඇති වුණොත් නියාම ධර්මයන්ට අනුව එසේ නිස්සිතවම නොපවතින ධර්මතාවයක් ලොවේ පවතින නිසා,එහි ප්‍රතිඵලය ප්‍රිය දේ අප්‍රිය දෙයක් බවට පරිවර්තනය වීමයි. පටිඝය, තරහ, ද්වේෂය, වෛරය ඇතිවන්නේ මෙසේ කලින් තමා ප්‍රිය යැයි නිගමනය කළදේ දැන් අප්‍රිය බවට, විපරිණාමය වීමයි. වෙනස් වීමයි. එය විභව තණ්හාවයි.

"සං" උපත ලබන ආකාරය තමා තුළින්ම යථාපරිදි අවබෝධකර ගත් කෙනෙකුට සමුදය නිරෝධ කිරීම පිළිබඳවත් "සම්මා" තත්ත්වයට පත් වීම පිළිබඳවත් කරුණු කාරණා අසා දැන තේරුම් ගත හැකිය. මේ නිසා "සං" දැක ගැනීම පළමුවැනිම අවශ්‍යතාවයයි. "සංදිට්ඨිකෝ" යැයි මාගධී භාෂාවෙහි පෙන්වා වදාළේ මේ අවශ්‍යතාවයයි. සංසාර රිය ගමන, ජීවිත පැවැත්ම දිගින් දිගටම නොකඩවා පවත්වාගෙන යාමට අවශ්‍ය වන ශක්තිය = ආහාර = ඉන්ධන = "සං" යනුවෙන් පෙන්වා වදාළ සමුදය එකතු කිරීමේ ක්‍රියාවලියයි.

මෙසේ එකතු කර ගන්නා ශක්තිය නිසා, ආහාර නිසා, චිත්තසංථානය කිළිටි වෙයි නම් අපි ඒවා කෙළෙස් = කළු ධර්ම = කාලි, කණ්හ = කුණු = කාලා ආදී නම්වලින් හඳුන්වමු. මෙසේ එකතු කරගන්නා ආහාර නිසා, චිත්තසංථානය පිරිසිදු වෙයි නම්, පැහැදිලි නම්, සිත පිනා යයි නම් අපි එවැනි දේ පුණ්‍ය ධර්ම, පින්කම්, පින, පින් ආදී නම්වලින් හඳුන්වමු. මේවා පුණ්‍යාභි සංඛාර නම් වේ. මෙවැනි සංඛාරයකින් බිහි කරන්නේ චිත්තසංථානය

පහදවන පිරිසිදු කරන "සං" ශක්තියකි. කෙළෙස්වලට, කළු ධර්මවලට "අපුඤ්ඤාභි සංඛාර" ලෙසින් නම් කර ඇත්තේ අපුඤ්ඤාභි සංඛාර මගින් චිත්තසංථානය කිළිටි කරන, අඳුරු කරන, අපිරිසිදු කරන නිසාය. මේ අනුව ඔබ පැහැදිලිවම තේරුම් ගත යුතු වැදගත්ම කාරණය නම් පුඤ්ඤාභි සංඛාර වුවත් අපුඤ්ඤාභි සංඛාර වුවත් මේ සංඛාර කොටස් දෙකෙන්ම කරන්නේ මේ පැවැත්ම දිගින් දිගටම හොඳින් හෝ නරකින් හෝ පවත්වාගෙන යන්නට උපකාර වන "සං" ශක්තියක් බිහිකර, එකතු කර ගන්නා සංඛාරයක් ක්‍රියාත්මක කිරීමයි.

කාමලෝක වල උපත ලබන්නේ පින්කම් කිරීමෙනි. අපායන්හි උපත ලබන්නේ පව්කම් කිරීමෙනි. අරූපී තලවල උපත ලබන්නේ ආනෙඤ්ජාභි සංඛාර (අනරිය ධ්‍යාන) කිරීමෙනි. එසේ නම් පුඤ්ඤාභි සංඛාර කළත්, අපුඤ්ඤාභි සංඛාර කළත්, ආනෙඤ්ජාභි සංඛාර කළත් මේ තල තිස් එක තුළ කොහේ හෝ උපත ලබා අතරමං වන්නටම සිද්ධ වෙයි. කුසල්, කුසලස්ස උපසම්පදා යන මාගධී පදවල යමක් එකතු කර ගැනීම යන අර්ථයක් නැත. එහි ඇත්තේ එකතු කරගත් කුණු සළාහැර, ගළවා දමා, අස්කර දමා චිත්තසංථානය පිරිසිදු කරගැනීම යන අර්ථයයි. (කු+සළ+අස්ස) කු = කුණු, කෙළෙස්, චිත්තසංථානය කිළිටි වන දේ කුණුය. සළ = ඒවා චිත්තසංථානයේ මුල් බැසගෙන ගබඩා වී, උපාදානය කරගෙන පවතින නිසා ඒවා සළාහැර, සොළවා, මුළින්ම ගළවා දැමිය යුතුය.

අස්ස = එසේ මුළින් ගැළවූ කෙළෙස් අස්කර චිත්තසංථානයෙහි මුල් බැසගත් සිත කිළිටි වන කුණු = කෙළෙස් = කළු ධර්ම චිත්තසංථානයෙන් සොළවා, ගළවා දමා, අස්කර ඉවත්කර දැමීම යන අර්ථයයි. මේ කුසල යන පදයේ යමක් එකතු කර ගැනීම යන අදහසක් හෝ අර්ථයක් කිසිසේත්ම ඇත්තේම නැත. ඒ වෙනුවට මෙහි ඇත්තේ එකතු කරගත් යම් දෙයක් අස්කර ඉවත් කර දැමීම යන පැහැදිළි අර්ථයකි. මේ අනුව පින්කම්, පව්කම් සහ කුසල් - අකුසල් යන්න සම්පූර්ණයෙන්ම ප්‍රතිවිරුද්ධ අර්ථයන් විග්‍රහ කරන මාගධී පද බව පැහැදිළිවම තේරුම් ගත යුතුය.

"මා" යන පදය බුද්ධ භාෂිත මාගධී භාෂාවේ එන ඉතාම වැදගත් බහුලවම භාවිතා කරන පදයකි. "සං" යන පදයෙන් එකතු කිරීම, රැස් කිරීම අදහස් කළා මෙන්ම "මා" යන පදයෙන් අදහස් කළේ අර්ථ ගැන්වූයේ මෙසේ එකතු කරගත් දේ ඉවත්කර, අස්කර දමා, සහමුළින්ම ඉන් මිදී නිදහස් වීම යන අර්ථයයි.

බුද්ධ ධර්මය යනු "මා පටිපදාව" බව ධම්මචක්කපවත්තන සූත්‍රයේ පැහැදිළිවම පෙන්වා වදාරා ඇත. මජ්ඣිම නිකායේ පළමුවැනි සූත්‍රය වූ මූලපරියාය සූත්‍රයේ එකසිය විසිහතර අවස්ථාවකම විග්‍රහ කර පෙන්වා වදාළේ "මා" විග්‍රහයයි. ''මඤ්ඤති'' "මා මඤ්ඤති" කරගත හැකි බවයි. මඤ්ඤති යනු මමත්වයයි - අස්මි මානයයි. තම්මතාවයයි. "මා මඤ්ඤති" යනු මමත්වයෙන්, අස්මි මානයෙන්, තම්මතාවයෙන් මිදී නිදහස් වීමයි. එසේ නම් "මා" යනු මිදී නිදහස් වීමයි. ඔබ හොඳින්ම අසා ඇති නිතර භාවිතා කරන "ඉමිනා පුඤ්ඤ කම්මේන මා මේ බාල සමාගමෝ" යන ගාථාවේ "මා" යනු මිදී නිදහස් වීමයි. බාල සමාගමෙන් මිදී නිදහස් වීම මෙහි අර්ථයයි. "කාලාමා" සූත්‍රය නමින් අද

හඳුන්වන සූත්‍රයේ දක්වා වදළේ කෙළෙස් වලින් මිදී නිදහස් වීම ගැනය. කාල යනු කෙළෙස්ය. "මා" යනු මිදී නිදහස් වීමයි. කාලාමා යනු කෙළෙස් වලින් මිදී නිදහස් වීමය. මේ සූත්‍රය පැහැදිළිවම ''මා'' ඉතිකිරාය, "මා පිටක සම්පදාය" ආදී වශයෙන් මිදී නිදහස් විය යුතු දේ බොහෝමයක් පෙන්වා දෙයි.

එකතු කර ගත් චිත්තසංථානය තුළ ගබඩා කරගත් සංසාර රිය ගමනට උපකාර වන කුණු සියල්ලම අස්කර, ඉවත්කර, ඉන් මිදී නිදහස් වීම "සම්මා" යන මාගධී පදයේ ධර්ම අර්ථයයි. මහා චත්තාරීස සූත්‍රයේ මේ බව ඉතාම පැහැදිළිවම පිරිසිදුවම විග්‍රහකර විස්තර කර පෙන්වා දී ඇත. අද බුද්ධාගමේ සම්මතයෙන් භාවිතා කරන ලෞකික සම්මා දෘෂ්ඨිය එකකි. නිවනට උපකාර වන අරිය සම්මා දෘෂ්ඨිය තවත් එකකි. මාගධී බුද්ධ භාෂිතයේ "සම්මා" යන පදයේ අර්ථය නිවනට උපකාර වන නිබ්බාන මාර්ගය පෙන්වා දුන් "සං" වලින් මිදී නිදහස් විය යුතුය යන අර්ථයයි.

"මා" යන මාගධී පදයට ත්‍රිපිටක සිංහල පරිවර්තනයේදී "නහමක්" යන සිංහල පදයක් යොදාගෙන ඇතත් මෙහි අර්ථය අපැහැදිළිය. මේ නිසා "මා" යනු අතීතයේ එකතු කරගත් යමකින් මිදී නිදහස් වීම, අනාගතයේ එකතු කරගත හැකි යමකින්ද මිදී නිදහස් වීම හා වර්තමානයේ එකතුකර ගන්නා යමකින් මිදී නිදහස්වීම යන තුන් කාලයටම ගැළපෙන පදයකි. "මා පටිපදා" යනු එකතුකර ගැනීමෙන් මිදී නිදහස් විය හැකි පටිපදාවයි. "මජ්ඣිමා පටිපදා" යනු මදයෙන්, මත් වන දෙයින් මිදී, නිදහස් වන ප්‍රතිපදාවයි.

මජ්ඣ යනු මදය - මත්වීම බව ඉතාම පැහැදිළිව දේශණා කර ඇත. "සුරා මේරය මජ්ඣපමා දට්ඨානා වේරමණී සික්ඛා පදං" යන්නෙහි රහ මෙර නිසා මදයට - මත් වීමට පත් වීමෙන් ප්‍රමාද වන්නේ නිවනයි. මේ අනුව "මජ්ඣිමා පටිපදා" යනු මත් වීමෙන් මදයෙන් මිදී නිදහස් වන ප්‍රතිපදාවයි. මූලපරියාය සූත්‍රයේ, බුද්ධ දේශණාවේ සාරාංශයක් ලෙසින් සමස්ත හරය ලෙසින් පෙන්වා වදාළේ මෙම "මා මඤ්ඤති" ප්‍රතිපදාවමයි.

පෘථග්ජන ලෝකයා තම සංසාර ගමන රිය ගමනක් ලෙසින් දිගින් දිගටම පවත්වාගෙන යන්නට මුල් වූ හේතුව මෙසේ බාහිර ලෝකයෙන් එකතු කරගන්නා යම් යම් දේ නිසා (ආහාර වර්ග හතරම නිසා) මත් වීමයි. "රහමෙර" යනු මත් වීම, රස බැලීම යන්නයි. ඇසෙන් රූප රස උරා බීමත්, කනෙන් ශබ්ද රස බලා, රස උරාබී සිත මත් වීමත්, නාසයෙන් ගඳ සුවඳ උරාබී රස බලා සිත මත් වීමත්, දිවෙන් රස උරාබී රස බලා රසයෙන් සිත මත් වීමත්, කයෙන් ශරීරයෙන් සුව පහස විඳිමින් මත් වීමත්, මනසින් දහ අතේ සිතුවිලි සිහිපත් කරමින් ධම්ම රස බැලීමත් යන රහ මෙර නිසා මත් වන ස්වාභාවයයි. අරිය තත්ත්වයට පත් නොවූ පුද්ගලයා රාගයෙන් මත් වෙයි. ද්වේෂයෙන්ද මත් වෙයි. මානයෙන්, අස්මිමානයෙන්ද මත් වෙයි. ඒවාගේම නිලය නිසා, බලය නිසා, කුලය, ජාතිය, ආගම, පාට නිසාද මත් වෙයි.

තරුණ බව නිසා යොබ්බන මත ඇති වෙයි. ආහාරය බුදින නිසා බුදිමත ඇති වෙයි. මේ ආකාර වූ සියලුම මත් වීම මදයට පත් වීම රහ මෙර නිසා මත් වීම වේ. එයම "මජ්ඣ" යන පදයෙන් පොදුවේ දේශණාකර වදාරා ඇත. මත් වීම නිසා සිදු වන නියත ප්‍රතිඵලය,

විපාකය නිවන ප්‍රමාද වීමයි. "අප්පමාදේන සම්පාදේත" යැයි කීවේ "සං" ප්‍රහාණය කර දමා සංවලින් මිදී නිදහස් වියයුතු බව පැහැදිළි කිරීමයි. මත්වන්නේ "සං" නිසාමය.

සම්මා දෘෂ්ඨියේ පටන් සම්මා සමාධිය තෙක් අංග අටක්ම අද දේශකයින් වහන්සේලා දේශණා කර විග්‍රහ කළත් එය හොඳ, යහපත්, නිවැරදි ලෝකයක් සකස් කර ගන්නට හොඳ ලෝකයක් උපාදානය කරගන්නට පමණක් උපකාර වන්නා වූ ලෞකික සම්මා අංග අටක් මිස අරිය මාර්ගයට උපකාර වන රාග, ද්වේෂ, මෝහ සහමුළින් උදුරා දමන්නට මඟ පෙන්වූවක් නම් නොවේ. ලෝකෝත්තර සම්මා අංග අට අරිය අෂ්ටාංගික මාර්ගයයි. ලෞකික සම්මා අංග අට ලෞකිකත්වය යහපත් කරගන්නට මාර්ගයයි. මජ්ඣිමා පටිපදාව වන්නේ ලෝකෝත්තර සම්මා අංග අටයි.

## චතුරා රක්ඛා ප්‍රතිපදාව හෙවත් සතර ආරක්ෂක කමටහන්

මිනිසාගේ සිත පාලනය කර ගන්නට තාක්ෂණය, නවීන විද්‍යාව හෝ වෙනත් කිසිම නවීන උපකරණයක්, මෙවලමක් කිසිසේත්ම යොදාගත නොහැකියි. මිනිසාගේ සිත පාලනය කර ගතහැකි එකම ක්‍රමය සිත සුද්ධ පවිත්‍ර කරගැනීම පමණි. සිත කෙළෙස් වලින් කිළිටු වූ විට, අඳුරු වූ විට, දුප්පඤ්ඤස්ස වූ විට, අඥාණ වූ විට සිත පාලනය කර ගැනීමට නොහැකි වීම නිසා සිත විසිරේ. කම්පනයට, භයට, වේදනාවට, චලනයට, විස්සෝපයට පත්වේ. මානසික රෝග මතුවේ. සිතේ ඇති කෙළෙස් ගති අස්කර, ඉවත් කර සිත පිරිසිදු කර ගැනීමට නම් මනසේ හැකියාව මනීන්ද්‍රිය, යෝනිසෝමනිසීකරණ ශක්තිය භාවිතා කළ යුතු වේ. සිත ශික්ෂණය කර හිත පාලනය කර හිතට වහල් නොවී කටයුතු කළ හැක්කේ මනීන්ද්‍රියට පමණි. හිතට වහල් වීමෙන් මනස අවුල් වේ.

මනීන්ද්‍රිය භාවිතා කිරීමට පුරුදු වීම භාවනා කිරීම යනුවෙන් හඳුන්වනු ලබයි. දැන් මනීන්ද්‍රිය භාවිතා කරන කෙනෙක් හිතට වහල් වීමෙන් ප්‍රිය දේ හඹායෑම නතර කරයි. අප්‍රිය දේවල් සමඟින් නොගැටේ. ඒ නිසා මෝහයෙන් මුළා වීමක් නොකරයි. උපේක්ඛා සිතින් ඉවසා, විමසා ක්‍රියාකරන්නටත් පුරුදු වේ. භාවනා කිරීමට පුරුදු වීම යන ක්‍රියාකාරකමෙහි හරය ඉවසා විමසා හේතු ඵල දහමට ගළපා බලා විනයට සසඳා බලා උපේක්ඛා සිතින් ක්‍රියා කිරීමට පුරුද්දක් පුහුණුවක් ලබා ගැනීම වේ.

භාවනාවෙන් නැගිට සාමාන්‍ය සමාජ පරිසරයට එදිනෙදා කටයුතු වලට අනුගත වීමත් සමඟම තමන්ගේ සංසාර ගති පුරුදු ඉස්මතු වී නැවතත් ප්‍රියදේට ඇලීමටත්, අප්‍රිය දේ සමඟ ගැටීමටත් සිදුවන්නේ මනීන්ද්‍රිය භාවිතා කිරීමට පුරුද්දක් පුහුණුවක් ඇති කර නොගෙන හිතටම වහල් වී තවමත් ක්‍රියා කිරීම නිසයි.

මනීන්ද්‍රිය භාවිතා කිරීමට පුරුදු වීම පුහුණු වීම යනු හිතට අරමුණු වන සියලුම අරමුණු මනසින් තෝරා බේරා, මැන බලා භාවිතා කළ යුතු අරමුණු භාවිතා කිරීමටත් භාවිතා නොකළ යුතු අරමුණු භාවිතා නොකර බැහැර කිරීමටත් පුරුදු පුහුණු වීමයි.

භාවිතා කළ යුතු අරමුණු කරණීය ධර්ම ලෙසත් භාවිතා නොකළ යුතු දේ අකරණීය ධර්ම ලෙසත් බුද්ධ ධර්මයේ විග්‍රහ වේ. මේ දෙපැත්තට බෙදීම ද්වතා අනුස්සතිය ලෙසින් බුද්ධ භාෂිතයේදී හඳුන්වා දී ඇත.

චිත්තසංථානය කිළිටි වන කාම විතක්ක විචාර, ව්‍යාපාද විතක්ක විචාර, විහිංසා විතක්ක විචාර භාවිතා නොකළ යුතු දේ ලෙසත් තම චිත්තසංථානය පිරිසිදු වන නෙක්ඛම්ම සවිතක්ක සවිචාර, මෙත් සිත වඩවන සවිතක්ක සවිචාර හා අවිහිංසා සවිතක්ක සවිචාර මෙන්ම වීතරාගී, වීතදේෂී, වීතමෝහි සවිතක්ක සවිචාර භාවිතා කිරීමට කළ යුතු දේ කරණීය ධර්ම ලෙසත් පිරිසිදුවම දැක ගත යුතුයි. අවබෝධ කරගත යුතුයි.

ඇස, කන, නාසය, දිව, කය හා මන පිනවා තාවකාලිකව ලබන ආමිස වින්දනයක් සුවයක් ලැබීමට පෘථග්ජන පුද්ගලයින් ලෙස මෙතෙක් දීර්ඝ කාලයක් සංසාරයේ පුරුදු වී පුහුණු වී කටයුතු කළත් දැන් ඒ ගති පුරුද්දෙන් ඉවත් වී නිරාමිස සුවයක්, නිරාමිස ප්‍රීතියක් ලැබිය හැකි ක්‍රියාකාරකම් වලම යෙදෙන්නටත් පුරුදු පුහුණු විය යුතුයි.

හිතට අරමුණු වන සංඥාවන් පිරිසිදුව දැක ගෙන වෙන්කර තෝරා බේරා ගැනීමට යම් කිසි පුරුදු වීමක් පුහුණු වීමක් නම් අවශ්‍යම වේ. මේ පුරුදුවීම පුහුණුවීම මනීන්ද්‍රිය භාවිතා කර යෝනිසෝමනිසිකාරයෙන් කටයුතු කිරීම යනුවෙන් බුද්ධ භාෂිතයේ විග්‍රහ කරන ලද ක්‍රියාවලියයි. මනස භාවිතා කර ඉවසා විමසා පරීක්ෂා කර නිරීක්ෂනය කර නිගමනයකට බැස ගැනීම යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන්නෙකුගේ නියත හැසිරීම් රටාව වේ. මෙතනදී අයෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කිරීම නවතී. හිතට වහල් වී, හැඟීම් වලට ඉඩ දී කටයුතු කිරීමෙන් වෙන් වී මනස භාවිතා කිරීමටත්, කරණීය ධර්ම හා අකරණීය ධර්ම වෙන් කොට හඳුනා ගැනීමටත් පුරුදු වේ. කරණීය ධර්ම භාවිතා කළ යුතුයි. අකරණීය ධර්මයන් භාවිතයෙන් බැහැර කළ යුතුයි. "සබ්බ පාපස්ස අකරණං කුසලස්ස උපසම්පදා" යනු මේ දෙපැත්තමයි. මේ සඳහන් කළ ක්‍රියාකාරකම් දෙකමත් කළ යුතුම වේ. එකක් පමණක් ක්‍රියාවට නංවා අනෙක් ක්‍රියාකාරකම නොකර සිටීම නිසා "සචිත්ත පරියෝ දපනං"යන තත්ත්වයට හිත පත්වීම සිදුනොවේ. ඒ නිසාම මේ ක්‍රමය භාවිතයට ගැනීම ආනාපානසති භාවනාව යනුවෙන් බුද්ධ දේශණාවේ නම් කර ඇත. "ආන" යනු ආශ්‍රය කළ යුතු භාවිතා කළ යුතු කරණීය ධර්ම ආශ්‍රයට භාවිතයට ගැනීම, නිතර නිතර භාවිතා කිරීමයි. "පාන" යනු ආශ්‍රයෙන් බැහැර කළ යුතු ප්‍රහාණය කර අස්කර ආශ්‍රයෙන් ඉවත් කළ යුතු දේ බැහැර කරන්නට පුරුදු වීමයි. මේ සඳහා පහසුම හා සරළම භාවනා ක්‍රමය "චතුරා රක්ඛා" නැමති සතර කමටහන් වැඩීමයි.

## චතුරා රක්ඛා - සතර කමටහන්

"බුද්ධානුස්සති මෙත්තාච - අසුභං, මරණස්සති, ඉති ඉමා චතුරා රක්ඛා භික්ඛු භාවෙයිය සීලවා" යනුවෙන් බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ සතර කමටහන් වන්නේ,

1. අසුභානුස්සතිය
2. මෙත්තානුස්සතිය
3. මරණානුස්සතිය හා
4. බුද්ධානුස්සතිය වැඩීමයි.

දස අනුස්සති අතරින් ඉතාමත් වැදගත් මේ අනුස්සති සතරම එකටම යුගනද්ධ ලෙසින් භාවිතා කරන්නට පුරුදු වීම මඟින් සතර සතිපට්ඨානයමත් සම්පූර්ණ වේ. සමථ, විපස්සනා දෙකමත් සම්පූර්ණ වේ. චේතෝ විමුක්තිය හා ප්‍රඥා විමුක්තිය යන උභතෝ භාග විමුක්තියමත් පරිපූර්ණ වේ.

මේ චතුරා රක්ඛා නැමති සතර කමටහන් පූර්ව කෘත්‍යයක් සේ එහෙමත් නැතිනම් භාවනා කිරීමට පෙර කරගත යුතු ආරක්ෂාවක් ලෙසින් අද වන විට වරදවා තේරුම් ගෙන පදපරම ලෙසින් භාවිතා කරන බවද පැහැදිළි කර දිය යුතුයි. මේ සතර කමටහන් යනු හොඳින් කටපාඩම් කර උදේ, සවස කියවමින් හෝ සජ්ඣායනා කිරීමට හෝ අනු දන වදාළ දෙයක් නම් නොවේ. මේ සතර කමටහන්වලින් පෙන්වා දුන්නේ ප්‍රායෝගිකවම දවසේ නිදා ගන්නා වේලාව හැර අනෙක් හැම අවස්ථාවකදීම භාවිතා කළ යුතු ආනපාන සති භාවනාවකි.

මේ සතර කමටහන් භාවිතා කිරීම යනු ආරක්ෂක ආයුධ හතරක් භාවිතයට ගැනීමකි. මේ ආයුධ හතරම දන නිසි කලට වේලාවට නිසි ආයුධයම තෝරාගෙන භාවිතා කරමින් සිතෙහි මතු වන කෙළෙස් ගති කපා දමන්නටම භාවිතා කරන්නට පුරුදු වීම පුහුණුවීම මඟින් සතර සතිපට්ඨානයම සම්පූර්ණ වන්නේය.

මෙම සතර කමටහන් පිළිබඳව පළමු කොටම යථාපරිදි මනා අවබෝධයක් ලබා ගෙන අරිය මාර්ගය සම්පූර්ණ කරන්නකුට සීල, සමාධි, පඤ්ඤා යන ත්‍රිවිධ ශික්ඛාවම සම්පූර්ණ වී පරතෝඝෝෂක ප්‍රත්‍ය හා සම්මා දිට්ඨියටද පත්වීමෙන් මාර්ග ඵල ලබා ගන්නටත් මේ කමටහන් හොඳටම ප්‍රමාණවත් වේ.

රාගක්ඛයෝ නිබ්බානං, ද්වේෂක්ඛයෝ නිබ්බානං, මෝහක්ඛයෝ නිබ්බානං යනුවෙන් බුද්ධ දේශණාවෙහි සඳහන් වන පරිදි රාගය, ද්වේශය හා මෝහය සහමුලින්ම උදුරා දමා සිත නිදහස් කර ගැනීම සඳහා මේ සතර කමටහන් තරම් උපකාර වන වෙනත් දෙයක් නැත්තේය. පුද්ගලයා, සත්ත්වයා සංසාර ගැටළුවට බැඳ තබන බැම් තුනම කපා දමන්නට අනුගමනය කළ යුතු නිවැරදි හා පහසුම ප්‍රතිපදාව මේ සතර කමටහන් භාවිතා කිරීමය.

මම නිදුක් වෙම්වා, මම නීරෝගී වෙම්වා, මම සුවපත් වෙම්වා, මම දුකින් මිදෙම්වා යනාදී වශයෙන් සම්මතයෙන් තමාටම මෙත් වැඩීමට කියවන පාඨයන් කියවීම මෙත්තානුස්සතිය වැඩීමක් නම් නොවේ.

"ඉතිපි සෝ භගවා අරහං අරහතෝ සම්මා සම්බුද්ධස්ස" ආදී වශයෙන් බුදුගුණ ගායනා කිරීමද බුද්ධානුස්සතිය ප්‍රගුණ කිරීමක් නොවේ.

"ජීවිතං අනියතං මරණං නියතං" ආදී වශයෙන් මරණය සිහිපත් කරන පදවැල් ගායනා කිරීම ද මරණානුස්සතිය වැඩීමද නොවේ.

පිළිකුල් භාවනාවක් කිරීම අසුභානුස්සතිය භාවනා කිරීමක් නොවේ. මේ අනුව නිවන්මඟ සම්පූර්ණ වීමට නම් මේ සතර කමටහන් පිලිබඳව යථාවබෝධයක් ලබා ගෙන එයින් කරගත යුතු කරණීය ධර්ම හා එමගින් අස්කර ගතයුතු අකරණීය ධර්මයන් නිවැරදිවම අවබෝධයෙන් යුතුවම භාවිතා කිරීමට පුරුදු විය යුතුය.

ධර්මාවබෝධයක් නැති සම්මතයෙහිම පිහිටා ක්‍රියාකරන පෘථග්ජන පුද්ගලයෙකු මෛත්තානුස්සතිය වැඩීම, අසුභානුස්සතිය වැඩීම, මරණානුස්සතිය වැඩීම හා බුද්ධානුස්සතිය වැඩීම යනුවෙන් කරනු ලබන මෙනෙහි කිරීම හෝ ගායනා කිරීමද හරයක් නැති දෙයක් පමණි.

සතර කමටහන් භාවිතය පිළිබඳව පළමුකොටම පැහැදිළි ධර්මාවබෝධයක් ලබා ගත යුතුයි. සංසාර ගැටළුවට තමන්ම බැඳ තබන බැමි දැක,"සං දැක" මෙවන් බැමි තම තමන්ගේම චිත්තසංථානයේම දෛනිකව සකස් වන ආකාරයද දැක ගන්නට තරම් ධර්මාවබෝධයක් පළමුවෙන්ම ලබා ගත යුතුයි. මෙය සුතමයේ ඥාණයයි.

පංචස්කන්ධයන්ම උපාදානය කරගන්නා ආකාරයත් පංචස්කන්ධයන්ම උපාදානය කරගන්නට හේතුව වන සමුදය සිතෙහි බිහිවන ආකාරයත් යළි යළිත් ඉපදී ඉපදී මැරි මැරී මේ සංසාර ගමන දිගටම පවත්වන්නට හේතුවත් (පුනබ්භවෝති) දැක ගත් විට ඔහු ධර්මාවබෝධයක් ලැබූ සතර කමටහන් භාවිතා කිරීමට සුදුසු වූ කෙනෙක් බවට ද පත්වෙයි.

මේ සංසාර රිය ගමන උත්සාහයක් නැතිවම අනායාසයෙන්ම, නොනවත්වාම, අඛණ්ඩවම ඉදිරියට ගලා යන්නට හේතු භූත වූ කාරණය චිත්තසංථානය කෙළෙස් වලින් පිරී කිළිටි වී පැවතීමයි. සංසාර රිය ගමන දිගින් දිගටම ඉදිරියටම පවත්වා ගෙන යන්නට නම් විශේෂ ඥාණයක් ධර්මාවබෝධයක් හෝ අධ්‍යාපනයක් පර්යේෂණයක් වැනි දෙයක් හෝ කළ යුතු නොවේ. විඤ්ඤාණය නිරන්තරයෙන්ම තමන්ට අවශ්‍ය ආහාර සොයා, සපයා ගන්නටත් මතු පැවැත්ම සහතික කරගන්නටත් හැකි හැම උත්සාහයක්ම දරනු ඇත. සත්ත්වයා මුළාවේ දමා සත්‍යය වසන්කර විඤ්ඤාණයේ පැවැත්ම සඳහාම සංවට්ටය සකස් කර ගැනීම සඳහාම නිරන්තරයෙන්ම සිත ක්‍රියා කරනු ඇත.

බුද්ධ දේශණාවෙහි පෙන්වා වදාළ චතුරා රක්ඛා යනු ආරක්ෂක ආයුධ හතරකි. රාග, ද්වේෂ, මෝහ නැමති කෙළෙස් සතුරන් සිඳ දමන ආරක්ෂක ආයුධ හතරකි. සාමාන්‍ය පෘථග්ජන පුද්ගලයෙකු රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් ක්‍රියාකරන විට මේ ආයුධ හතර මොට්ටවන නිසා කෙළෙස් සතුරන් කපා ඉවත් කරන්නට තරම් ආයුධ මුවහත් නොවන නිසා මෝහයෙන් ක්‍රියාකරන්නෙකු බවටම පත්වෙයි. මෝහය යනු මොට්ට කමයි. මෝහයෙන් මොට්ට වන්නේ තමන්ගේම මනස මුවහකර ගැනීමෙනි.

## මෙත්තානුස්සතිය ප්‍රගුණ කර ගැනීම

මෙත්තානුස්සතිය වැඩීම යනු මෙත් වැඩීමයි. පරම මෙත්තාවම ප්‍රගුණ කිරීමයි. අරිය මෙත් වැඩීම යනුද මෙයටම නමකි. සමස්ත ලෝක සත්ත්වයා කෙරෙහිම එක සමාන වූ මෙත් සිතක් අප්‍රමාණ වූ මෙත් සිතක් තමා තුළ පවත්වා ගැනීම මෙත්තානුස්සතිය වැඩීම යන්නෙහි නියත පරම අර්ථයයි. මෙත් සිතක් මතු වූ විට පවතින විට තමන්ගේ සිතෙහි, ද්වේෂය, වෛරය, ක්‍රෝධය, ඊර්ෂ්‍යාව වැනි කිළිටි ගති සියල්ලම මෙත් සිත මඟින් යටපත්ව යනු ඇත. මේ කිළිටි ගති, නරක ගති යටපත්ව නොගියේ නම් නැවත නැවතත් වෛරී ගතියම මතු වන්නේ නම් තමන් මෙත් සිතක් භාවිතා කරන්නට තවමත් පුරුදු පුහුණු වී නැති බවත් වටහා ගත යුතුයි.

අද බෞද්ධ ලෝකයා මෙත්තානුස්සතිය වඩනවා යනුවෙන් කරනු ලබන්නේ, "මම නිදුක් වෙම්මා, මම නීරෝගී වෙම්මා, මම සුවපත් වෙම්වා, මම දුකින් මිදෙම්වා, මම නිවන් දකිම්වා" මගේ අම්මා, තාත්තා, මාගේ ඥාතීන්, මගේ මිතුරන් ආදීන් සිහිපත් කරමින් කරනු ලබන "මට, මම, මගේ " වශයෙන් ආත්මීය වශයෙන් වූ මෙත් භාවනාවකි. තමන් තමන්ටම කරගන්නා මෙම ආත්මීය භාවනාව භාවිතයට ගෙන ප්‍රගුණ කර ගැනීමෙන් මෙත්තානුස්සතිය වැඩීමෙන් ලබා ගත හැකි ලබා ගත යුතු නිවැරදි අරමුණු හා ප්‍රතිඵල කොතරම් දුරට ඉටුවන්නේද යන්න අවංකවම සිතා බැලිය යුතුයි.

තමන්ගේ සිතෙහි ගබඩා වී, මුල් බැස ගෙන පවතින ද්වේෂය, වෛරය වැනි කෙළෙස් ගති ඉවත් වීමක් නොවන්නේ නම් හෝ සමස්ත ලෝක සත්ත්වයා වෙතම සම මෙත පැතිර වීමක් නොවන්නේ නම් හෝ මේ වැරදි පාඨයන් භාවනාවක් ලෙසින් භාවිතා කිරීමෙන් පරමාර්ථය ඉටු නොවන බවද පැහැදිළිවම දැක ගත යුතුය. තමන් තමන්ටම මෙසේ මෙත් වැඩීම කර ගන්නේ "මම" යන ආත්ම දෘෂ්ඨියෙනි. "මම" යැයි දකින්නේ තාවකාලිකව මෙසේ අටවා ගත් මේ ශරීර කූඩුවයි. මේ ශරීර කූඩුවට කොපමණ මෙත් වැඩීම කළත් මෙහි වයසට යාම, මරණයට පත්වී විනාශවී යාම, ලෙඩ දුකට පත්වීම හා දිරාගොස් ජරාවට පත්වීම නැවැත්විය නොහැකිය. ඒ බව මනා ලෙසින් අවබෝධ කරගෙන මෙත්තානුස්සතිය වැඩීම යනුවෙන් පෙන්වා දුන් අරිය මෙත් භාවනාවම භාවිතා කරන්නට පුරුදු පුහුණු විය යුතුයි.

පරම මෙත්තා භාවනාව කළ යුත්තේ ඒ පිළිබඳව ලබා ගත් යථාවබෝධයක් ඇතිවමය. මමත්වයට, ආත්ම සංකල්පයන්ට ලෞකිකත්වයට බැඳෙන භාවනාවකින් සිතෙහි මුල් බැස ගෙන පවතින ද්වේෂ ආදී කෙළෙස් ගති ප්‍රහාණය කර නිදහස් විය නොහැකිය.

මේ සඳහා පරම මෙත් වැඩීම සිත තුළ වර්ධනය වන සිතෙහි පවතින කෙළෙස් ගති ප්‍රහාණය කර දමන්නටද සමත්වන අප්‍රමාණ චේතො විමුක්තිය ලබන මෙත්තා කර්මස්ථානයක්ම භාවනා කරන්නට භාවිතයට ගන්නට පුරුදු විය යුතුය. පරම මෙත් සිත වැඩෙන භාවනා කර්මස්ථාන රාශියක් ඇති අතර ඉන් පහසු එකක් මෙහි සටහන් කර තබමි.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
සෝවාන් ඵලයෙන් නිදුක් වෙත්වා
සකෘදාගාමී ඵලයෙන් නිරෝගී වෙත්වා
අනාගාමී ඵලයෙන් සුවපත් වෙත්වා
අරහත් ඵලයෙන් දුකින් මිදෙත්වා
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා ///

මම, මාගේ, මගේ ආත්මය යන පටු වූ සංකල්පයන්ගෙන් මිදී සමස්ත ලෝක සත්ත්වයා කෙරෙහිම සමසේ පරම මෙත් සිත පතුරවන්නට තම සිත සකස් කර ගැනීම අරිය මෙත් සිත පුරුදු කර ගැනීමයි. ද්වේෂය, වෛරය, ක්‍රෝධය තම සිතින් සහමුලින්ම ඉවත්වීමටද මෙය උපකාර වෙයි.

මේ ආකාරයට තම සිත තුළම මෙත් සිතක් ඇති කර ගන්නටත් සිතේ පැවති වෛරී ගති සහමුලින්ම ඉවත් කර ගන්නටත් උපකාරවන මෙත් භාවනාවක් පුරුදු කර පුහුණු කර ගෙන අතවශ්‍ය අවස්ථාවකදී එය භාවිතයට ගැනීම පළමුවන ආයුධය සකස් කර ගැනීමයි. මෙය කෙළෙස් කපන්නට ආයුධයක් පණ පොවා, පණතියා ගැනීමයි. අවශ්‍ය වන ඕනෑම අවස්ථාවක භාවිතයට ගැනීමට සුදුසු වන සේ මෙත්තානුස්සතිය නැමැති ආයුධය මුවහත් කර තබාගැනීම පළමුවන ආයුධයයි.

## අසුභානුස්සතිය ප්‍රගුණ කර ගැනීම

පෘථග්ජන ලෝකයාගේ නියත පුරුද්ද වන්නේ ආස්වාදයක් ලබන සුබ දේවලට ඇලෙන, බැඳෙන ප්‍රිය මධුර දේ හඹා යන ගති පුරුද්දයි. ඇස, කන ආදී ඉන්ද්‍රියයන් පිනවීමට හැම පෘථග්ජන පුද්ගලයෙකුම දැඩි ආශාවෙන් ක්‍රියා කරයි. ඉන්ද්‍රියයන්ට අරමුණු වන රූප, ශබ්ද, ගඳ සුවඳ, රස, සුව පහස ආදී දේ උපාදානය කර ගැනීමෙන් පෘථග්ජන ලෝකයා නිරතුරුවම සතුටට පත්වෙති. අභිනන්දනයට පත්වෙති. එහි ආදීනව- ආනිසංස දකින්නට නොහැකි තාක් කල් මෙසේ ප්‍රිය දේ උපාදානය කර ගැනීම සුවයක්, සතුටක් ලෙසින්ම සිතා කටයුතු කරති.

ඇස, කන, නාසය, දිව, කය ආදී ඉන්ද්‍රියයන් පිනවන්නට ක්‍රියාකරන හැමවිටකම පංචස්කන්ධයම උපාදානය කරගන්නටමත් පුද්ගලයා ක්‍රියාකරයි. මේ ආකාරයට ඉන්ද්‍රියයන් පිනවීමේ හා ආස්වාදයක් ලැබීමේ අවශ්‍යතාව ඇත්තේ විඤ්ඤාණයටයි. විඤ්ඤාණය තම පැවැත්ම සඳහා තම ආහාර සපයා ගන්නේ ආස්වාදයන් විඳ වීමෙන් ඉන්ද්‍රියයන් පිනවීමෙනි. සංසාර ගැටළුවට සංසාර දුකට මුල්වන පළමුවන හේතුව වන්නේ මේ ආකාරයට ඉන්ද්‍රියයන් පිනවීමට පංචස්කන්ධයම උපාදානය කර ගැනීමයි.

මෙහොතකට ඇස, කන ආදී ඉන්ද්‍රියයන් පිනවා ලබන සුවය ආමිස සුවයකි. ආමිස සුවය යනු පසුවට අනිසි ප්‍රතිවිපාක ලබා දෙන ක්‍රියාවන්ය. හිතට වහල් වී, හැඟීමට වහල් වී කරනු ලබන මෙවන් ක්‍රියාකාරකම් පසුව තමන්ටම බරක් වීම භයට හේතුවක් වීම බැම්මකට බැඳීම යන අනිසි ප්‍රතිවිපාක දුක් ලෙසින් තමන්ටම මතු උරුම වෙනු නියතය. "අසුබ" යන පදයේ විරුද්ධ පදය "සුභ" යන පදයයි. අසුභානුස්සතිය වැඩීමෙන් ප්‍රගුණ

කිරීමෙන් බලාපොරොත්තු විය යුතු වන්නේත් සුබ සංඥාව සිතින් අස්කර ගැනීමයි. සුභ යනු "සුන්දර බව" යන අර්ථයයි. සුන්දර යන්න නිතරම ආස්වාදයක් ලබා දෙන ඇස, කන ආදී ඉන්ද්‍රියයන් මත්කරවන ගතියයි. ඇස, කන ආදී ඉන්ද්‍රියයන් අසීමිත ලෙසින් අන්තගාමී ලෙසින් පිනවන්නට යාම කාමච්ඡන්දයෙන් මත්වීමයි. අසුභානුස්සතිය භාවනා කිරීමෙන් සිදුවන්නේ සුන්දර බවට මත්වීම නවතා දමා සුන්දර දෙයට නොඇලී, නොබැඳී ක්‍රියාකරන්නට පුරුදු පුහුණු වීමයි. සුබ දේ සුබ ලෙසින් සුව ලෙසින් දැක ගත්විට පෘථග්ජන ලෝකයා ඒ සුබ දේට ඇලෙයි. ඒවා උපාදානය කර ගනී. පෘථග්ජන ලෝකයාගේ සංසාර පැවැත්ම දිගින් දිගටම පවත්වාගෙන යන්නට උපකාර වන සමුදය බිහිවන්නේම මේ සුභ දේට ඇලීමෙනි. සුබ දේ අල්ලා උපාදානය කර ගැනීමෙනි. ලෝකයාගේ පෘථග්ජන ස්වභාවය පවතින තුරාවටම සුන්දර, ප්‍රිය මධුර දේට ඇලෙයි, බැඳෙයි. කාමච්ඡන්දයෙන් මුළා වෙයි, මත්වෙයි. සමස්ත සංසාර ගැටළුවම නිර්මාණය කර ගන්නේ මේ ආකාරයෙන් ප්‍රිය, මධුර, සුබ දේට ඇලීමෙනි, මෙහි ආදීනව යථාපරිදි නොදැනීම දුක පිලිබඳව නොදැනීමයි. ''දුක්ඛේ අඥාණං'' යන තත්ත්වයයි. සිතට ප්‍රිය වූ යම් දෙයක් ප්‍රිය මධුර මිහිරි දෙයක් සේ දැක අල්ලා උපාදානය කර ගෙන ඒ ආකාරයෙන්ම දිගටම පවත්වා ගන්නට, නවත්වා ගන්නට, උත්සාහ දරන්නේ මේ පැවත්ම පිලිබඳව යථා තත්ත්වය නොදැනීමයි. මේ තත්ත්වය යථාපරිදි අවබෝධ කර ගත් පසුව ''දුක්ඛේ ඥාණං'' යන තත්ත්වයටම පත්වේ.

ඉන්ද්‍රියයන් හයටම අරමුණු වන දේ සුබ, සුව, සුචි සේ දකින්නේ, වැරදි දැක්මක් වැරදි දෘෂ්ඨියක් සිතෙහි පවතින නිසාමය. මේ වැරදි දැක්ම වැරදි දෘෂ්ඨිය මිච්ඡා දෘෂ්ඨියයි. මේ ප්‍රිය මධුර දේ පිළිබඳව සිතෙහි හටගත් වැරදි දෘෂ්ඨියයි. මේවායේ ඇති ප්‍රිය බව, මධුර බව, විපරිණාමයට පත්වී ආදීනව ලෙසින් තමා කරාම අයහපත් ඵල විපාක ලෙසින් ලබා දෙන  බව දැකීම නිවැරදි දැක්මයි. සම්මා දිට්ඨියට මුල් වූ "ධම්මෝ සංදිට්ඨිකෝ" තත්ත්වයට පත්වීමයි. සංසාර ගැටළුවට සංසාර දුකට හේතුව සුන්දර දේවලින් අන්තවාදී ලෙසින් ආස්වාදයන් ලබන්නට යාම බව දැන ගත් පසුව සුබ යැයි, සුන්දර යැයි දුටු දෙයෙහිම අසුබය දැක සුන්දර බව අත්හැරීමට ක්‍රියාකර දුකින් මිදී නිදහස් විය හැකි බවද දැක ගත හැකි වෙයි.

අසුභානුස්සතිය වැඩීම යනු පිළිකුල් භාවනාවක් නොවේ. යමක් කෙරෙහි සිතේ පිළිකුලක් ඇති වීම යනු බුද්ධ භාෂිතයට අනුව නම් ද්වේෂයක් ඇතිවීමයි. සුභ දේ, සුන්දර දේ කෙරෙහි ද්වේෂයක් හෝ  පිළිකුලක් ඇති කර ගැනීම මඟින් අසුභානුස්සතිය වැඩීමේ ක්‍රමයක් බුද්ධ භාවනාවේ නම් නැත. යමක් කෙරේ පිළිකුලෙන් බලන්නා තුල ද්වේෂයක්ම හට ගනී. නමුත් බුද්ධ දේශණාවේ පෙන්වා වදාළ අසුභානුස්සතිය වැඩීමෙන් ප්‍රියදේ මෙන්ම අප්‍රිය දේද උපේක්ඛා සිතින් ඉවසා, විමසා බලා දැක ගෙන එහි යථාස්වභාවයම අවබෝධ කර ගත යුතුය.

මේ අනුව අසුභානුස්සතිය වැඩීමෙන් අසුභානුස්සතිය පුරුදු පුහුණු කරගැනීමෙන් කර ගත යුත්තේ සිතෙහි මතුවන ආස්වාදයන් විඳීමේ කැදර ගතිය, කැමැත්ත අතහැර එහි යථාස්වභාවය අවබෝධ කර ගැනීමය. මේ අනුව ප්‍රිය, මධුර, ඉෂ්ඨ කාන්ත රූප, ශබ්ද, ගඳ සුවඳ, රස, සුව පහස හා ධම්ම යන මේවාට ඇලෙන්නට, බැඳෙන්නට, පටළැවෙන්නට යනවා නම් ඒ බව තේරුම් ගෙන එහි ආදීනව, ආනිසංස දැක ගෙන එවැනි ආස්වාදයන්

විඳීමේ කැමැත්ත අතහැර ඉන් මිදී නිදහස් වන්නට කටයුතු කිරීම අසුභානුස්සතිය වැඩීමයි. අසුභානුස්සතිය භාවනා කිරීමයි.

අසුභානුස්සතිය වැඩීමේදී භාවනා කළ හැකි කර්මස්ථානද බොහෝ ඇත. මේ අතරින් පහසුවෙන්ම වැඩිය හැකි සරළ කර්මස්ථානයක් මෙහි සටහන් කර තබමි.

අරමුණ අත් හැරීම නාථයි
අරමුණෙහි නොඇල්ම නාථයි
අරමුණෙන් මිදීම නාථයි
අරමුණෙන් මිදී නිදහස් වීම නාථයි
අරමුණ අත්හැරීම වෙත්වා
එහි නොඇල්ම වෙත්වා
ඉන් මිදීම වෙත්වා
මිදී නිදහස් වෙත්වා

මෙහිදී අසුභානුස්සතිය භාවනා කිරීම යනු සිතෙහි හට ගත් සුන්දර අරමුණ ආස්වාදයක් ලැබීමේ අරමුණ අතහැර දමන්නට කරනු ලබන භාවනාවකි. සුභ දෙය, සුන්දර දෙය කෙරෙහි සිතෙහි ඇති වූ කාමච්ඡන්දය සිතෙන් ඉවත් කර දමන්නට කටයුතු කිරීමයි. මෙවැනි අසුභානුස්සතියක් වැඩීමද මනාසේ පුරුදු පුහුණු විය යුතු දෙයකි. සිතේ මතුවන කෙළෙස් කපා දමන්නට කෙළෙස්වලින් මිදී නිදහස්වන්නට උපකාර වන සේ අසුභානුස්සතියද ආයුධයක් සේ මුවහත් කර තබාගෙන භාවිතයට නිසි අවස්ථාවේදී එය ගත යුතුය.

## මරණානුස්සතිය ප්‍රගුණ කිරීම

මරණානුස්සතිය වැඩීම මරණානුස්සතියෙහි පිහිටා ක්‍රියා කිරීම යන්නෙන් අදහස් කරන්නේ "ජීවිතං අනියතං මරණං නියතං" යනාදී පදවැල් කියව, කියවා සිටීම නම් නොවේ. කොයි මොහොතේ හෝ තමන් මැරෙන බව නොදන්නා කෙනෙකුන් නැත. කොයි මොහොතේ හෝ මැරෙන්නට සිටින පුද්ගලයා මාරයාට ණය වී මැරෙන බව යථාපරිදි අවබෝධ කරගෙන මාරයාගේ දේ ණයට නොගෙන මාරයාගෙන් නිදහස් වීමට භාවනා කිරීම මරණානුස්සතියයි. උපාදානය කර ගන්නා පංචස්කන්ධයම මාරයාට අයත් දේය.

මේ මිහිතලය මත අපට පරිහරණය කරන්නට ඇති භාවිතා කරන්නට ඇති සියලුම දේවල් පංචස්කන්ධය ලෙසින් ධර්මයේ පෙන්වා දෙයි. එනම් රූප ස්කන්ධය, වේදනා ස්කන්ධය, සංඥා ස්කන්ධය, සංඛාර ස්කන්ධය හා විඤ්ඤාණ ස්කන්ධයයි. මේ කිසිම කොටසක් අපට සදාකාලික අයිතියට ලබා ගත නොහැකිය. ඒවා කාටත් පොදුවේ පරිහරණනය කරන්නට භාවිතා කරන්නට ධර්මතාවයෙන්ම ලැබී ඇති දේවල්ය. මේ බව නොදන්නා පෘථග්ජන ලෝකයා මෙවන් වූ පංචස්කන්ධය මගේ, මම, මට අයිති, මගේ ආත්මය වශයෙන් උපාදානය කරගෙන දිගටම තමා සන්තකයේ පවත්වන්නටත් උත්සාහ

දරයි. තමන් කැමති සේ, රිසිසේ, නිච්ච වශයෙන් දිගටම පවත්වා ගන්නට නොහැකි මෙවන් වූ පංචස්කන්ධයන් අල්ලා උපාදානය කර ගන්නේද තමන්ගේම සිතිනි. ඒ රාග, ද්වේෂ, මෝහ ගති වලින් කිළිටු වූ සිතෙනි.

උපන් සියලු සත්ත්වයන්ට පොදුවේ පරිහරණය කරන්නට භාවිතා කරන්නට හිමිකම ඇති මේ පංචස්කන්ධයන් මම, මගේ, මගේ ආත්මය යැයි තමන් සන්තකයේ පවත්වා ගන්නට උපාදානය කරගන්නට දරණ වැරදි උත්සාහය මාරයාට ණය වීමට එකම හේතුවයි. මේ ආකාරයට වැරදි අවබෝධයකින් තමාගේ යැයි උපාදානය කර ගත් පංචස්කන්ධය තමාට අයිති නැති බව පසක් කොට අවබෝධ කරගෙන එහි ඇති අනිච්ච බව, දුක්ඛ බව, අනත්ථ බව යථා පරිදි අවබෝධ කරගෙන මාරයාට අයිති දේ සිතින් අත්හැර මාරයාට ණය වීමෙන්ද නිදහස් වීම මරණානුස්සතිය වැඩීමයි.

තමන් මරණයට පත්වන මොහොතේදීත් යමකු විසින් පංචස්කන්ධයම උපාදානය කරගෙන තදින්ම මම, මගේ, මට අයිතිදේ යැයි සිතින් අල්ලා බදාගෙන මරණයට පත්වූයේ නම් ඔහු මරණයට පත්වූයේ මාරයාට ණය වීමෙන්ය. ඒ මාරයාට අයිති දේ තම සිතින් අල්ලා උපාදානය කර ගත් නිසාය. මරණයට පත්වීම යන්නෙහි අර්ථය මෙසේ මාරයාට ණය වී මියැදීමයි. අරහත් තත්ත්වයට පත් වූ අරිය උත්තමයෙක් මාරයාට අයිති සියලු දේ ගැන යථා පරිදි දැක පංචස්කන්ධය ලෙසින් උපාදානය කර ගත් සියලු දේ සහමුළින්ම අතහැර උපාදානය කර ගැනීමේ ක්‍රියාවලියෙන්ද සම්පූර්ණයෙන්ම මිදී නිදහස් වූ කෙනෙකු බවට පත්වීම අපවත් වීමයි.

එනම් පැවැත්මේ ඇති සියලු දේ අනිච්ච බව - කැමති සේ නොපවතින බව, දුක්ඛ බව - දෙවන වේෂයකට පත්වන බව, විපරිණාමයට පත්වන බව, අනත්ථ බව - විපරිණාමයට පත්වී, විනාශ වන දේ අල්ලා ගැනීමෙන් අනාථ තත්ත්වයටම පත්වන බව යථා පරිදි දැක, අවබෝධ කරගෙන ඒ සියල්ලම පිළිබඳව ඇත්ත ඇති සැටියෙන් දැක එහි නොබැඳේ. එවැනි දේ අල්ලා ගෙන ආස්වාදයක් විඳිය නොහැකි බව යථා පරිදිම දකියි. ඒ නිසා "නිබ්බින්දති" යන්න අවබෝධ කරගෙන එහි නොබැඳෙයි. "නන්දති" යන්නෙන් මිදී නිදහස් වෙයි. අභිනන්දනයට පත්වීමෙන් වැළකේ. මේ මරණානුස්සතිය වැඩීමයි. මෙහිදී ත්‍රිලක්ඛණය වැඩීම අත්‍යාවශ්‍යමයි. මාරයාට අයිති පංචස්කන්ධයන් "මම, මගේ, මගේ ආත්මයට අයිතියි" යනුවෙන් අල්ලා උපාදානය කරගෙන තමන් කැමති සේ තමන් සන්තකයේ දිගටම පවත්වා ගත නොහැකි නිශ්චිත දේවල් නොවන බවත් දැකගත යුතුය.

"අනිස්සිතෝච විහරති න ච කිංචි ලෝකේ උපාදියති" යන්න යථා පරිදි අවබෝධ කරගත් පුද්ගලයා අනිච්ච බව, දුක්ඛ බව, අනත්ථ බව යථා පරිදි අවබෝධ කරගෙන, නිච්ච සංඥාව, සුබ සංඥාව, අත්ථ සංඥාව සිතින් බැහැර කර දමයි. මෙසේ ත්‍රිලක්ඛණය වැඩීමෙන් ජීවිත පැවැත්මේ ඇති යථා ස්වභාවය, යථා ස්වරූපය දැකීමෙන් මරණානුස්සතිය වැඩේ.

| | |
|---|---|
| රූපං අනිච්චා | නො නිච්චා |
| රූපං දුක්ඛා | නො සුඛා |
| රූපං අනත්ථා | නො අත්ථා |
| වේදනා අනිච්චා | නො නිච්චා |
| වේදනා දුක්ඛා | නො සුඛා |
| වේදනා අනත්ථා | නො අත්ථා |

මේ ආකාරයට රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන පංචස්කන්ධයම රූප, ශබ්ද, ගඳ සුවඳ, රස, සුව පහස හා ධම්ම වශයෙන් ඇස, කන ආදී ඉන්ද්‍රියන්ට අරමුණු වන සියලු අවස්ථාවන්හි එහි ඇලීමක් වේ නම් ඇලීමෙන් මිදී නිදහස් වන්නටත්, ගැටීමක් වේ නම් ගැටීමෙන් මිදී නිදහස් වන්නටත්, අරමුණ කෙරෙහි උපේක්ඛා සිතක් ඇති කර ගන්නටත් ත්‍රිලක්ඛණය භාවනා කිරීමෙන් මරණානුස්සතිය වැඩෙයි. පංචස්කන්ධයන් උපාදානය කර ගැනීමෙන් වැළකීම නිසා මාරයාට ණය වීමෙන්ද නිදහස් වේ. මෙම භාවනාව මනා කොට ප්‍රගුණ කොට යථා අවබෝධයෙන් යුතුව අවශ්‍ය අවස්ථාවෙහිදී භාවිතයට ගැනීමට සුදුසු සේ පුරුදු පුහුණු වීම මරණානුස්සතිය වැඩීම යන ආරක්ෂක ආයුධයයි.

## බුද්ධානුස්සතිය ප්‍රගුණ කිරීම

"ඉතිපි සෝ භගවා" ආදී බුදුගුණ ගායනා කිරීම අද බුද්ධානුස්සතිය වැඩීම ලෙසින් වැරදියට භාවිතා කරති. බුද්ධානුස්සතිය වැඩීම යන්නෙහි නිවැරදි, නියම අර්ථය මේ ගාථාවේ සඳහන් වන බුද්ධ ගුණයන් අතරින් එකක් හෝ තමන් තුළද ඇති කර ගන්නට අවශ්‍ය වන්නා වූ නිසි ක්‍රියාමාර්ගයන් අනුගමනය කිරීමයි. මෙය යම් ප්‍රතිපදාවක් අනුගමනය කිරීමක් මිස ගායනා කිරීමක් නොවේ. මේ සඳහා" බුද්ධ ගුණයන්" යන්නෙහි නිවැරදි අර්ථයම, ධර්ම අර්ථයම තේරුම් ගත යුතුය. බු+උද්ධ යනු භව උදුරා දැමීමයි. (භව නිරෝධයයි) "පුනබ්බවෝති" යනුවෙන් විග්‍රහ කරන ලද යළි යළිත් සංසාර දුක නිර්මාණය කර ගනු ලබන්නා වූ සංසාර දුකම බිහි කරන්නට හේතු වූ කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා (රාග, ද්වේෂ, මෝහ) තම සිතින්ම උදුරා දමා අස්කර දමා සමුදය උත්පාදනය වීම නැවැත්වීම සඳහා නිර්උදා තත්ත්වයට පත්කිරීම සඳහා අනුත්පාද තත්ත්වයට පත්කිරීම පිණිසම බුද්ධානුස්සතිය වැඩීමයි.

මේ ජීවිත පැවැත්ම දිගින් දිගටම නොකඩවාම නිර්මාණය කර ගනිමින් යළි යළිත් උපදිමින්, මැරෙමින් දිගටම සංසාර ගමනක් ගෙන යන්නේ සමුදය ධර්ම බිහිකර ගන්නා හෙයිනි. සමුදය ධර්ම සිතක බිහිවන්නේ කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා (රාග, ද්වේෂ, මෝහ) සිතෙහි පවතින නිසාමය. අවිද්‍යාව හා තණ්හාව යන ගති මේ ජීවිත පැවැත්ම දිගටම යළි යළිත් බිහි කරමින් නොකඩවාම පැවැත්ම ඉදිරියටම ගෙනයන්නට ක්‍රියාකරති. දිගින් දිගටම කුඩු හදන වඩුවා අවිද්‍යාව හා තණ්හාවයි. අවිද්‍යාව හා තණ්හාව සිතින්ම උදුරා අස්කර දැමීමට නම් බුද්ධානුස්සතිය වැඩීම කළ යුතුමය. එනම් රාග, ද්වේෂ, මෝහ යන කෙළෙස් ගති සිත තුළින් උදුරා අස්කර දැමීමට ක්‍රියාකළ යුතුය. යළිත් එවන් කෙළෙස් ගති සිත තුළ ක්‍රියාත්මක නොවන්නටම ඒ ගති මුළින්ම උදුරා අස්කර දැමිය යුතුයි.

එනම් සියලු කෙළෙස් උදුරා දමා සිත නික්ලේසී තත්ත්වයට පත්කර ගැනීමයි. සමුච්ඡේදප්ප්‍රහාණයයි.

රාග, ද්වේෂ, මෝහ යන කෙළෙස් ගති සහමුලින්ම උදුරා දමා සමුච්ඡේද වශයෙන් ප්‍රහාණය කර දමන්නටත් ඒ ගති නැවත සිතේ නොඋපදින ලෙසින් පටිපස්සද්ධි වශයෙන්ම ප්‍රහාණය කර දමන්නටත් බුද්ධානුස්සතිය වැඩීම කළ යුතුමය. භගවතෝ, අරහතෝ, සම්මා සම්බුද්ධස්ස ආදී බුදු ගුණයන්, නව අරහාදී ගුණයන් තමා තුළද පිහිටන්නේ රාග, ද්වේෂ, මෝහ ආදී කෙළෙස් ගති සහමුලින්ම සිතින් ඉවත් කර උදුරා දැමීමෙන්ම පමණි. නව අරහාදී බුදුගුණයන් තමා තුළ ඇති කරගන්නට නම් බුද්ධානුස්සතිය වැඩීම ප්‍රතිපදාවක් ලෙසින්ම ප්‍රායෝගිකවම පුරුදු කර ගත යුතුය. නව අරහාදී බුදු ගුණ ගායනා කරමින් සිටීම කිසිසේත්ම බුද්ධානුස්සතිය වැඩීමක් නම් නොවන්නේය. වෙද මහත්තයා ලියා දුන් බෙහෙත් සීට්ටුව කටපාඩම් කර ගත්තාට ලෙඩ සනීපවීම සිදු නොවන්නාක් මෙනි.

තමන්ටත් මේ සංසාර දුකින් මිදී නිදහස් වන්නට අවශ්‍ය නම් දුක බිහි කරන, දුක නිර්මාණය කරන ලෝභ, ද්වේෂ, මෝහ කෙළෙස් ගති තම සිත තුළින්ම උදුරා ඉවත් කර දැමීමට බුද්ධානුස්සතිය වැඩීම කළ යුතුය. කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා යනුවෙන් පෙන්වා දුන් ලෝභ, ද්වේෂ, මෝහ ගති තමන් තුළම පැවතීම මේ ජීවිත පැවැත්ම දිගින් දිගටම යළි යළිත් බිහි කරගෙන පවත්වා ගෙන යාමේ එකම හේතුවයි. ලෝභ, ද්වේෂ, මෝහ ගති සිතින් උදුරා දමා ලෝභක්ඛය, ද්වේෂක්ඛය, මෝහක්ඛය කිරීම නිබ්බානං ලෙසින් බුද්ධ දේශණාවේ පෙන්වා වදාළහ. බුද්ධ තත්ත්වයට පත්වීම යනුවෙන් අදහස් කරන්නේ මේ කෙළෙස් ගති සිතින් සහමුලින්ම උදුරා දැමීමයි. මේ ගති සිතක පවතිනා තුරාවට යළි යළිත් ඒ ගතිම බිහි කිරීම ජීවිතයක් පැවැත්වීමයි.

1. රූපාදී යම් අරමුණක් පිළිබඳව නිච්ච සංඥාවක් සිතේ මතුවීම, පැවතීම හා එයම ස්ථිර කර ගැනීම දුකට හේතුවයි. අනිච්ච අනුපස්සනා කරමින් යථා ලෙසින්ම අනිස්සිත බව අවබෝධ කරගනිමින්ම සිතේ ඇති වූ නිච්ච බව ප්‍රහාණය කළ යුතුයි.
2. රූපාදී යම් අරමුණක් පිළිබඳව නිච්ච සංඥාවක් පැවැත්වෙන තුරාවට සුව විඳීමේ සුඛ සංඥාවක්ද මතුවේ. ඒ නිසා සැප හඹා යයි. නමුත් සැප යනුවෙන් දෙයක් දිගටම පවත්වා ගෙන යාමට නොහැකි වීම නිසා තමන්ම දුක නිර්මාණය කර ගනී. මේ අනුව දුක නිර්මාණය වන ආකාරය දැක සුඛ සංඥාව, සැප බලාපොරොත්තුව සිතින් ඉවත් කර ගන්නට දුක්ඛ අනුපස්සනාව කළ යුතුයි.
3. දුක උරුම වන හැම තැනකදීම තමන් අනාථ තත්ත්වයට පත්වීම නියතය. සැප යැයි කියා යමක් උපාදානය කරගෙන එය මම, මගේ, මම සැප විඳිමි යන අත්ථ සංඥාව නිසා අස්මිමානය බිහි වෙයි. මේ අස්මිමානය දුරලන්නට අත්ථ සංඥාව ප්‍රහාණය කරන්නට අනත්ථ අනුපස්සනා කළ යුතුමයි.
4. රූපාදී යම් අරමුණක් අල්ලා ගෙන සැප විඳීමේ සුඛ සංඥාවක් සිතෙහි මතු වී ඒ අනුව අස්මිමානයක්, අත්ථ සංඥාවක් ඇති වීම නිසා යම් අභිනන්දනයක් ලැබීමේ අවශ්‍යතාවයක් ද සිතක මතුවේ. මේ අභිනන්දනය යනු ආස්වාදයක් විඳීමේ කැමැත්තයි. ප්‍රිය වස්තූන්ට ඇලෙන්නේ මේ අභිනන්දනය විඳ ගැනීම

සඳහායි. මේ අනුව අභිනන්දනයෙන් මිදීමට නිබ්බිදානුපස්සනාව සම්පූර්ණ කර ගත යුතුයි. නිබ්බිදා යනු නොබැඳීමයි. නිර්වේදයයි. බැඳීමට හේතුව වින්දනයයි.

5. රාගයක් සිතක හටගන්නේ නන්දි සංඥාවෙන් මත් වීමෙනි. රාගය සිතින් ඉවත් කරන්නට විරාගානුපස්සනාව වැඩිය යුතුයි. රාගී බවෙන් වෙන් වීම, ආස්වාදයට නොබැඳීම, නො ඇලීම, මත් නොවීම විරාගානුපස්සනාවයි.
6. රාගය නිසා ඇලීමෙන්, ද්වේෂය නිසා ගැටීමෙන් සමුදය සිතක උපත ලබයි. සමුදය නොඋපද වීම නිර් උදා කිරීම, අනුත්පාද කිරීම යනු නිරෝධයයි. මේ නිසා නිරෝධානුපස්සනාව වැඩීමෙන් සමුදය ප්‍රහාණය වෙයි.
7. ඉහත සඳහන් පියවරයන් හයම සම්පූර්ණ වීමෙන් රාගය, ද්වේෂය, මෝහය යන කෙළෙස් ගතීන්ගේ උපාදානය පටිනිස්සග්ග තත්ත්වයට පත්වේ. පටිනිස්සග්ග වීම යනු මෙතෙක් සසරට බැඳ තිබූ බැමි කපා ඉවත් කිරීමයි. මෙතෙක් සංසාරයට බැඳ තිබුනේ රාගයෙන්, ද්වේෂයෙන් හා මෝහයෙන් යන කෙළෙස් බැමි තුනකිනි. මේ බැමි තුනම නිස්සග්ග වීම යනු නිබ්බාන වීමයි. සබ්බූපදි පටිනිස්සග්ග වීමයි. මේ අනුව බුද්ධානුස්සතිය වැඩීම යනු රාග, ද්වේෂ, මෝහ ගති තුනම තම සිතින්ම ඉවත් කර දමා සිත නික්ලේසී තත්ත්වයට පත්කර ගැනීමයි. මේ සඳහා ත්‍රිලක්ඛණයම නිවැරදිව භාවනා කළ යුතුයි.

මේ ආකාරයෙන් මෙත්තානුස්සතිය, අසුභානුස්සතිය, මරණානුස්සතිය හා බුද්ධානුස්සතිය යන සතර කමටහන් නිවැරදිව තේරුම්ගෙන වඩන්නට භාවිතා කරන්නට පුරුදු පුහුණු විය යුතුයි. මේවා ආරක්ෂක ආයුධ හතරක් ලෙසම භාවිතා කළ යුතුයි. මේ ආයුධ හතරම අවශ්‍ය වන නිසි අවස්ථාවට නිසි පරිදි භාවිතා කරන්නටද පුරුදු වීමත් පුහුණු වීමත් අවශ්‍යමය. මේ අනුව කටයුතු කරන්නට පුරුදු වූ පුහුණු වූ තැනැත්තා යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන පුද්ගලයකු බවටද පත්වේ.

මූලික වශයෙන්ම පුද්ගලයෙකුගේ, සත්ත්වයකුගේ සිතකට අරමුණු වන ආරම්මණයන් හයක් ඇත.

1. ඇසට අරමුණු වන රූපාරම්මණය
2. කනට අරමුණු වන ශබ්දාරම්මණය
3. නාසයට අරමුණු වන ගන්ධාරම්මණය
4. දිවට අරමුණු වන රසාරම්මණය
5. කයට අරමුණුවන පොට්ඨබ්බාරම්මණය
6. මනසට අරමුණු වන ධම්මාරම්මණයයි

මේ අරමුණු හයට අමතරව කිසිඳු අරමුණක් පුද්ගලයෙකුට, සත්ත්වයෙකුට හෝ දෙවියෙකුට වත් ඇති වන්නේ නැත. මේ අරමුණු හයම යළි කොටස් දෙකකට බෙදා වෙන් කර ගත යුතුයි.

i. ආශ්‍රය කළ යුතු යහපත් කරණීය ධර්ම කොටසට අයත්වන අරමුණු (ආන අරමුණු) අස්ස සති

ii. ආශ්‍රය නොකළ යුතු කෙළෙස් ගති සහිත අකරණීය කොටසට අයත් වන සිතින් ඉවත්කළ යුතු අරමුණු (පාන අරමුණු) පස්ස සති

පරිමුඛං සතිං උපට්ඨපෙත්වා - සතෝව අස්සසති - සතෝව පස්සසති යන පාඨ වලින් මහා සතර සතිපට්ඨාන සූත්‍රයේ කොටස් දෙකකට බෙදා වෙන් කර පෙන්වා දුන්නේ (අස්සසති) අශ්‍රය කළ යුතු දේ හා (පස්සසති) ප්‍රහාණය කළ යුතු යන දෙකොටසටයි. ආශ්‍රය කළ යුතු යහපත් අරමුණු නම් මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා සහ සිතින් කරන වීත රාගී, වීතදේෂී, වීතමෝහී යහපත් අරමුණුය. ප්‍රහාණය කළ යුතු, සිතින් බැහැර කළ යුතු වන්නේ රාග, ද්වේෂ, මෝහ යන කෙළෙස් අරමුණුය.

කායානුපස්සනාව, වේදනානුපස්සනාව, චිත්තානුපස්සනාව, ධම්මානුපස්සනාව යන සතර සතිපට්ඨාන භාවනාවෙහිම යෙදෙන්නට නම් සිතින් ඉවත් කර ගත යුතු කෙළෙස් ගති වෙන් කර තෝරා බේරා ගන්නට අවශ්‍ය වන යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකිරීම අත්‍යාවශ්‍ය වන්නේය. මෙනෙහි කළ යුතු යහපත් දේ හා මෙනෙහි නොකර ප්‍රහාණය කර සිතින් බැහැර කළ යුතු යැයි අරමුණු කොටස් දෙකකට බෙදා ගත යුතුමය.

අනරිය සමථ භාවනාවකදී නම් මෙසේ භාවිතා කළ යුතු හා භාවිතා නොකළ යුතු යැයි අරමුණු කොටස් දෙකකට බෙදා බලන්නට දැනුමක් නැත. සිතට එන සියලුම අරමුණු ප්‍රහාණය කිරීම අනරිය භාවනාවක් වැඩීමේදී සිදුවෙයි.

නිවනට බාධක ධර්මයන් නිවන වසා සිටින නීවරණ ධර්මයන් දැන හඳුනාගෙන ඒවා ප්‍රහාණය කළ යුතුය. ඒවා ආශ්‍රය නොකළ යුතුය. ඒවා කෙළෙස් බව කුණු බව දැන යථා පරිදි ඒවා සිතින් අස්කර දමන්නට, කෙළෙස් මුලින් උගුල්ලා දමන්නට මෙම ආයුධ හතරම නිසි පරිදි නිසි වේලාවට භාවිතා කළ යුතුය.

රාග, ද්වේෂ ,මෝහ යන කෙළෙස් සහිත අරමුණු සිතෙහි මතුවනවාත් සමඟම ඒවා මොනතරම් ප්‍රිය අරමුණු වුවද, ආස්වාද ජනක දේ වුවද, ඉන්ද්‍රියයන් පිනවන දේ වුවද, ඒවා නිවනට ප්‍රතිපක්ෂ බව දැක, ඒවා නිවනට බාධක බව දැක, ඒවා නිසා නිවන ප්‍රමාද කරන බව යථා පරිදි තේරුම් ගෙන එවැනි කෙළෙස් ධර්ම, කළු ධර්ම සිතෙහි මතු වන මොහොතේදීම ඒවා දිගේ සිතින් රෝද ගැසීම නවත්වා, ඒ අරමුණු වෙනස් කර, ඊට ප්‍රතිපක්ෂ අරමුණක සිත යොදවා අවසානයේදී ඒ කිළිටි ගතිය සිතින් අස්කර දමන්නටම ක්‍රියාකළ යුතුය. මේ පියවර තුනම අනුගමනය කළ හැකි වන්නේ මේ ආරක්ෂක ආයුධ හතරම භාවිතා කිරීමෙනි.

ධම්මානුධම්ම ප්‍රතිපදාවෙහි යෙදෙන්නට පුහුණුවක් ලැබූ, ඒ පිළිබඳව මනා අවබෝධයකින් කටයුතු කරන අරිය ශ්‍රාවකයකුට දැන් ආයුධ හතරම භාවිතයට ගෙන පළමුව තම සිත සමථයකට පත්කර ගෙන කෙළෙස් තුනීකර ගැනීමටත් දෙවනුව ඊට සමගාමීවම කෙළෙස් සහමුලින්ම කපා, උගුල්ලා දැමීමටත් දැනුමක් හා ශක්තියක් ද ලැබෙන්නේය.

මෙවන් අරිය ශ්‍රාවකයා දැන ගත යුතු දේ යථා පරිදි දැන ගනී. දැන ගෙනම ආශ්‍රය

කළ යුතු දේ ආශ්‍රය කරයි. ප්‍රහාණය කළ යුතු දේ ප්‍රහාණය කරන්නේද යථාවබෝධයකින්මය. මෙය හුස්ම පිට කිරීම හා ඇතුලු කිරීමට වඩා බොහෝ වෙනස්ය. පෙර සඳහන් කර පෙන්වූ යහපත් අරමුණු හයම හය දොරකින්ම ආශ්‍රය කර ඇතුළට ගන්නටත්, ආශ්‍රය නොකර දොරවල් වසා බැහැර කළයුතු දේ බැහැර කර තබන්නටත් හැකි බව මෙවන් අරිය ශ්‍රාවකයා දැන ගනී. මෙය බුද්ධ භාෂිතයේ පෙන්වූ ආනාපානසතියෙහි පිහිටා ක්‍රියා කිරීමයි. ඉන්පසුව ඕනෑම ඉරියව්වකින්ද ආනාපානසතියෙහි පිහිටා කටයුතු කරන්නටද හැකි ශක්තියක් ලබා ගනී. සක්මන් කිරීමේදීත්, ඉඳගෙන සිටීමේදීත්, සිටගෙන සිටීමේදීත්, නිදාගෙන සිටීමේදීත් චිත්තසංථානය ඇතුළට ගත යුතු දේත්, සිතින් බැහැර කළ යුතු දේත් තීරණය කරන්නට හැකි ශක්තියෙන් ක්‍රියාකරන පුද්ගලයා නිසි පරිදි ඉරියාපථ පබ්බයෙන්ද ආනාපානසතිය ක්‍රියාත්මක කරන්නට දැන ගනී. දවසේ පැය 24 පුරාමත් (නිදියගත් අවස්ථාවේ හැර) ආශ්‍රය කළ යුතු දේ දැන ආශ්‍රය කරයි. ආශ්‍රයෙන් බැහැර කර ප්‍රහාණය කළයුතු දේ තෝරා බේරා ප්‍රහාණය කරන්නටද දනී.

දැන් මේ ආයුධ හතරම භාවිතා කළ යුතු වන්නේ සිතින්ම ප්‍රහාණය කළ යුතු කෙළෙස් මුළින්ම කපා උගුල්ලා දමන්නටමය. ඒ නිසා මේ ආයුධ හතර එනම් මරණානුස්සතිය, මෙත්තානුස්සතිය, අසුභානුස්සතිය හා බුද්ධානුස්සතිය ප්‍රායෝගිකවම භාවිතා කළ යුතු ආකාරය සොයා බලමු.

සිත කිළිටිවන, සිත අඳුරු වන මනස අඥාණ බවට පත්කරවන අරමුණු 3ක් ඇත.

1. රාග සහිත ආරම්මණයන්
2. ද්වේෂ සහිත ආරම්මණයන්
3. මෝහ සහිත ආරම්මණයන්

මේ අරමුණු තුනම උපත ලබන්නේ තමාගේම සිත තුළමය. තමන්ට හොරෙන්, තමන්ට නොදනී මේ අරමුණු මතුවන්නට නොහැකිය. ඒ නිසා මේ අරමුණු මතු වන විටම ඒවා කෙරෙහි අවධානයෙන් පසු වී නිසිපරිදි නිසි ආයුධය භාවිතා කර කෙළෙස් කපා අස්කර දැමීමට ක්‍රියාකළ යුතුය.

1. ඇස, කන, නාසය, දිව, කය වැනි යම් ඉන්ද්‍රියයකින් රූප, ශබ්ද, ගඳ සුවඳ, රස, සුව පහස වැනි මොනයම් ප්‍රිය දෙයක් ස්පර්ශ වුනේ නම් එය ප්‍රිය යයි නිගමනය කළේ නම් සිත රාගයෙන් කිළිටි වෙයි. අඳුරු වෙයි. එය අප්‍රිය යැයි, අමනාප යැයි නිගමනය කළේ නම් ද්වේෂයෙන් සිත කිළිටි වෙයි, අඳුරු වෙයි.

මෙවන් වැරදි අරමුණක් සිතට ලැබුණ විට ඒ අරමුණ දිගේම සිතින් රෝද ගසා ඉන්ද්‍රියයන් පිනවීම පෘථග්ජන පුද්ගලයාගේ පුරුද්දයි. එය ගති පුරුද්දකි. එය සංසාර පුරුද්දයි.

මේ අරමුණ දිගේ දිගින් දිගටම සිතින් රෝද ගැසීම නවතා දමන්නට සුතවත් අරිය ශ්‍රාවකයා පළමුවම ක්‍රියාකළ යුතුය. ඉවසා විමසා ඊට සුදුසු පියවරක් ගැනීම නියත වශයෙන්ම කළ යුතුය.

මේ අකුසල විතර්කය තුළින් සිත මුදවා ගන්නටත් ඉවසා, විමසා කටයුතු කරන්නටත්, එකේ සිට දහය දක්වා ඉහළට ගැන නැවත දහයේ සිට එක දක්වා පහළට ගැනීම බොහෝ විටම ප්‍රමාණවත් විය හැකිය. මෙය ''විතක්ක සංඨාන සූත්‍රයේ'' පෙන්වා වදාළ අඤ්ඤනිමිත්ත පබ්බයයි.

ා

අකුසල විතර්කය දිගේම සිතින් රෝද ගසා සිත කිළිටි වීම යම් ආකාරයකින් නවතා දමා වෙනත් අරමුණකට සිත මෙහෙය වීම මඟින් ඉවසා විමසා කටයුතු කරන්නට දක්ෂ වූ පුද්ගලයා දූන් ආරක්ෂක ආයුධ හතරම භාවිතා කළ යුතු වන්නේය.

මේ අකුසල විතර්කය රාග අරමුණක් නම් සිත සමථයකට පත් කර ගත් වහාම අසුභානුස්සතිය භාවනා කරමින් ප්‍රිය මධුර දේ කෙරෙහි ඇලෙන්නට - ප්‍රිය මධුර දේ උපාදානය කර ගන්නට ක්‍රියාත්මක වන්නට ගිය සිත සමථයට පත්කර ගත යුතුයි. මේ නිසා ඇස, කන, නාසය, දිව, කය, මන යනාදී මොනයම් ඉන්ද්‍රියයක් හෝ ප්‍රිය මධුර සුභ අරමුණක් සමඟින් පටිච්ච වන්නට යන්නේ නම් එයින් සිත කිළිටිවන බව දූක රාගයෙන් මත්වන බව දූක මෙය උගුලක් බව දූක ඉන් මිදී නිදහස් වීමට ඒ ප්‍රිය මනාප අරමුණට මුල් වූ රූපයෙහි අසුභය මෙනෙහි කර ඒ ප්‍රිය බව සිතින්  ඉවත් කර ගත යුතුයි. ඒ ප්‍රිය මනාප වූ දෙය පිළිබඳවම උපේක්ඛා සිතින් බලන්නට පුරුදු විය යුතුය. එහි ඇති ආදීනව දූක එහි විපරිණාමය දූක එය අල්ලා ගැනීමෙන් අනාථ තත්ත්වයට පත්වෙනවා දූක සිත සමථයකට පත් කර ගැනීම සඳහා පළමු ආයුධය වූ අසුභානුස්සතිය භාවිතා කළ යුතුය.

මෙසේ සිත සමථයකට පත් වූ වහාම මේ රාග ගතිය - ප්‍රිය මනාප දෙයට ඇලෙන බැඳෙන ගතිය පුරුද්ද තමා තුළම ඇති දෙයක් බව තේරුම් ගෙන මේ ගති පුරුද්ද තම සිතින් සහමුලින්ම ඉවත්කර ගළවා දමා ගැනීමට ඒ සමඟම ක්‍රියාකළ යුතුය.

මේ ගති පුරුද්ද මුලින්ම ගළවා දමන්නට නම් මරණානුස්සතිය හා  බුද්ධානුස්සතිය යන කර්මස්ථාන දෙකම භාවනා කර මේ ගතිය තමා තුළ නිච්ච වීමට උත්සාහ දරණ බවද තේරුම් ගෙන මෙහි ඇති අනිච්ච බව, දුක්ඛ බව, අනත්ථ බව තේරුම් ගෙන නිච්ච, සුඛ, අත්ථ යන අකුසල සංඥා කපා හැර දමා සිත පිරිසිදු කර ගත යුතුය. මෙය රාගක්ඛය කිරීමයි. ආසවක්ඛයා ඥාණයයි. කම්මක්ඛය කිරීමයි.

ඒ සුන්දර ප්‍රිය මනාප අරමුණු සිතින් අත්හැරීම සඳහාත්, සිත සමථයකට පත්කර ගැනීම සඳහාත් ඒ අරමුණු අත්හැරීම නාථයි. එයින් මිදීම නාථයි. එය නො ඇල්ම නාථයි, ඉන් මිදී නිදහස් වීම නාථයි. අත්හැරීම වෙත්වා, මිදීම වෙත්වා, නොඇල්ම වෙත්වා, නිදහස් වෙත්වා යන අසුභානුස්සතිය වැඩිය යුතුයි.

ඒ හා සමඟම දෙවන හා තුන්වන ආයුධයන් වන මරණානුස්සතිය හා බුද්ධානුස්සතිය ද ඒ සමඟම භාවිතයට ගත යුතුයි.

| | | |
|---|---|---|
| නිච්ච සංඥා පජහති | - | අනිච්චානුපස්සී විහරති |
| සුඛ සංඥා පජහති | - | දුක්ඛානුපස්සී විහරති |
| අත්ථ සංඥා පජහති | - | අනත්ථානුපස්සී විහරති |
| නන්දි සංඥා පජහති | - | නිබ්බිදානුපස්සී විහරති |
| රාග සංඥා පජහති | - | විරාගානුපස්සී විහරති |

සමුදයං පජහති - නිරෝධානුපස්සී විහරති
සබ්බූපදිං පජහති - පටිනිස්සග්ගානුපස්සී විහරති

යන භාවනාව භාවිතා කරන්නට පුරුදු විය යුතුයි.

2. ද්වේෂ සහගත අකුසලාරම්මණයක් සිතට ඇතුලු විය හැක්කේද ඇස, කන, නාසය, දිව, කය, මන යනාදී ඉන්ද්‍රියයන් ආශ්‍රයෙන්ම අප්‍රිය, අමිහිරි, අමනාප දෙයක් සිතට පටිච්ච වීමෙන්මය. මෙවැනි අප්‍රිය ආරම්මණයක් දිගේම සිතින් රෝද ගසයි නම් ඒ ආරම්මණය දිගේම සිතුවිලි පවත්වයි නම් සිත ද්වේෂයෙන් කිළිටිවන බව දැක යම් පිළිවෙතකින් පළමු කොටම මේ ද්වේෂාරම්මණයෙන් සිත වෙන අතකට හරවා ගත යුතුය. මෙතැනදීද පළමු අවස්ථාවේදී මෙන්ම එකේ සිට දහය දක්වා ඉහළට ගැන දහයේ සිට එක දක්වා පහළට ගැනීම මගින් අරමුණ වෙනතකට හරවා ගත හැකිය.

සිත වෙන අරමුණකට හරවා නිදහස්කර ගත් වහාම ඉවසා විමසා බලා මෙත් සිතක් පහළ කර ගන්නට මෙත්තානුස්සති භාවනාව භාවිතා කළ යුතුය. මෙත්තානුස්සතිය වැඩීමෙන් ඒ තමාට අප්‍රිය වූ අමනාප වූ අරමුණු කෙරෙහි පැවති අප්‍රිය බව අමනාප බව සමථයට පත්කරගෙන ඒ පුද්ගලයා හෝ සත්ත්වයා හෝ ඒ අවස්ථාව හෝ කෙරෙහි උපේක්ඛා සිතින් මැදිහත්ව බලන්නටද හැකිවෙයි. දැන් සිතෙහි මතු වන්නට ආ වෛරී ගතිය තාවකාලිකව යටපත් වෙයි. සිත සමථයට පත්වීමත් සමගම පෙර පරිදිම මරණානුස්සතිය හා බුද්ධානුස්සතිය මෙනෙහි කර තම සිත තුළම මුල් බැස ගෙන පවතින මේ ද්වේෂ ගතිය මුළින්ම උදුරා යළි බිහි නොවන ආකාරයටම උදුරා දමන්නට ක්‍රියාකිරීම නිබ්බානගාමී මාර්ගය අනුගමනය කිරීමයි.

මෙත්තානුස්සතිය හා මරණානුස්සතිය මෙන්ම බුද්ධානුස්සතියද මෙනෙහි කර ප්‍රගුණ කර තමාගේම සිත තුළම මුල් බැස ගෙන පවතින කෙළෙස් සහිත වූ ද්වේෂ ගතිය මුළින්ම උදුරා දැමීම බුද්ධ තත්ත්වයට පත්වීමටම උපකාර වේ. මේ කෙළෙස් ගතිය තමා තුළම පවතින එකක් බව යථා පරිදි දැක තම කැමැත්තෙන්ම මේ කෙළෙස් ගතිය සිතින් උදුරා දමන්නට හැකිවීම නිබ්බාන වීමයි.

"අනිස්සිතෝච විහරති - නච කිංචි ලෝකේ උපාදියති"

යන්න යථා පරිදි අවබෝධ කරගත් පසු රාගය, ද්වේශය හා මෝහය යන කෙළෙස් ගති තුනමත් තම කැමැත්තෙන්ම සිතින් උදුරා දමා සිත පිරිසිදු කර ගත හැකි වෙයි.

3. සිතෙහි මතුවන කෙළෙස් සහිත වූ තුන්වන අවස්ථාව මෝහයයි, මානයයි. විහින්සා විතක්ක විචාර සිතෙහි මතුවන අවස්ථාවයි. මෙහිදී මතුවන්නේ අස්මිමානය මුල් කොට ගත් මානයන් සමූහයකි. අස්මිමානය යන කෙළෙස් ගතිය තම සිතේම මතුවීම තෝරා බේරාගන්නට ඉතාමත් අපහසුය.

තමන් මානයෙන් ක්‍රියාකරන බවක් පවා නොදන්නාකම මෙහි විශේෂ ලක්ෂණයකි. තමන් නොදන්නා බව තමන්ටම නොදැනේ. ජය ගන්නට යමක් තමන්ට ඇති බව, පරාජය

කරන්නට යමක් තමන්ට ඇති බව සිතීමද අස්මිමානයේම ලක්ෂණයන්ය. සංසන්දනය කිරීමද අස්මිමානය නිසාම සිදු වන්නකි.

මෙම අස්මිමානයෙන් මිදෙන්නට නම් මෙත්තානුස්සතිය හෝ අසුභානුස්සතිය හෝ එවැනි සමථ භාවනා කර්මස්ථානයක් හෝ කිසිවක්ම හෝ උපකාර වන්නේ නැත.

මරණානුස්සතිය හා බුද්ධානුස්සතිය නිවැරදිව හා යථා පරිදි දැන නිවැරදි ආකාරයටම භාවිතා කරමින් මානය උදුරා දමා සිත පාරිශුද්ධ තත්ත්වයටම පත්කර ගන්නට කටයුතු කළ යුතුය. මානයෙන්, අස්මිමානයෙන් මිදී නිදහස් වීමත් සමඟම රූප රාග, අරූප රාග, උද්ධච්ච කුක්කුච්ච, අවිජ්ජා යන සංයෝජන පහෙන්මත් මිදී සිත සහමුලින්ම කෙළෙස් වලින් තොර පිරිසිදු එකක් බවට පත්වෙයි.
අනිච්චානු පස්සී විහරති - නිච්ච සංඥා පජහති ආදී වශයෙන් ඉහත පෙන්වූ පියවරයන් හතම භාවිතා කරමින්
"අනිස්සිතෝච විහරති - නච කිංචි ලෝකේ උපාදියති"

යන ධර්මතාවය යථා පරිදි තේරුම් ගැනීමත් සමඟම මෙතෙක් පැවැත්වූ අස්මි මානය නැමති වැරදි මිම්ම - වැරදි මැනීම සිතින් ඉවත් වී උපේක්ඛා සිත සම්පූර්ණ වේ. මේ අනුව මෙම සතර කමටහන් ම නිවැරදි ලෙසින් අවබෝධ කරගෙන කෙළෙස් කපා දමා සිත පිරිසිදු කර ගන්නට භාවිතා කළ හැක. මේ මඟින් සතර සතිපට්ඨානයම සම්පූර්ණ වශයෙන් වැඩෙයි. සීල, සමාධි, ප්‍රඥා යන ත්‍රිශික්ඛාව සම්පූර්ණ වේ. දස අනුස්සතීන්ම සම්පූර්ණ වී මඟ ඵල ලබා ගන්නටම මෙය උපකාරී වේ.

මේ අනුව සතර කමටහන් භාවිතා කිරීම චතුරා රක්ඛා භාවිතා කිරීම නියත වශයෙන්ම කෙළෙස් මුල් කපා දමා නිවන් මඟ හෙළි පෙහෙළි කර ගන්නට උපකාර කර ගත හැකි ධම්මානුධම්ම ප්‍රතිපදාවයි. සතර සතිපට්ඨානයම සම්පූර්ණ වන ප්‍රායෝගික ක්‍රියාමාර්ගයයි.

* * * * * * * * * *

## අරිය උත්තමයකු අවබෝධ කරගන්නා මාර්ගඵල හා එහි ගති ලක්ෂණ

යම් පුද්ගලයෙකු පෘථග්ජන තත්ත්වයෙන් මිදී අරිය බවට පත්වන්නේ සෝවාන් මාර්ග ඵලය ලබා ගැනීමෙන් පසුවය. සෝවාන් මාර්ග ඵලය අවබෝධ කර ගැනීමත් සමඟම ඒ අරිය උත්තමයාට ප්‍රත්‍යාවේක්ෂා නුවණද පහළ වෙයි. ප්‍රත්‍යාවේක්ෂා නුවණ යනු තමන් අවබෝධ කරගත් ධර්මය පිළිබඳව, තමාම පිළිබඳව, ලබාගත් මඟඵල පිළිබඳව, තමා තුළ සිදු වූ වෙනස පිළිබඳ මෙනෙහි කර අත්දැක ගන්නට හැකි විපස්සනා ශක්තියක් ප්‍රඥාවක් ලැබීමයි. සෝවාන් මඟ ඵලය ලැබීමෙන් පසු තමන් ලබාගත් විශේෂ ගුණාංග පහක් පිළිබඳව තමන්ටම යම් තරමක අවබෝධයක් ලබා ගත හැකි වෙයි.

1. නිවන් මාර්ගය දකියි. මෙතෙක් තමන් අඳුරේ අත පත ගාමින් පරක් තෙරක් නොපෙනෙන සයුරක අතරමං වී ගමන් කළත් දැන් නිදහස් බිමක් දකින්නට ලැබුණු ලෙසත් දැනෙයි. ඒ නිදහස් බිම කරා යන මඟ පැහැදිලිව දකියි. මෙය මඟනැණ පහළ වීමයි. පූර්වභාග නුවණ පහළ වීමයි.
2. ලැබූ මාර්ග ඵලය දකියි. තමා තුළ වෙනසක් සිදු වී ඇති බවත් ඒ නිසාම මෙතෙක් තිබූ දාහය, ගින්න, අසහනය මෙන්ම දැඩිව ලෝකයාට සම්බන්ධ වී සිටීම වැනි දෙයින් තමා ක්‍රමයෙන් නිදහස් වන බව දකී. ලෝකය දැඩිව අල්ලාගෙන සිටීම නිදහසට බාධක බව දකියි.
3. ප්‍රහාණය කළ කෙළෙස් දකියි. මෙතෙක් කල් තම සිතින් ම දැඩිව අල්ලා සිටි ප්‍රිය මනාප ලෙස සිතූ බොහෝ දේ කිළිටි, අසංවර පහත් දේ බව දකී. එවැනි සිතුවිලි සිතට ගලාගෙන ආවත් ඒ සමගම ඒ අකුසල් බව දැන ඒවා පහ කිරීමට උත්සාහ ගනී. ඒවා කෙරෙහි කැමැත්තක් නැතිවා මෙන්ම සාරයි යනුවෙන් ගන්නට යමක් නැති බවත් දකී. පෙර යහපතකැයි සිතා ලාභයක්, තෘප්තියක් පතාම කළ පස් පව්, දස අකුසලයෙන්ම දැන් එවැනි තෘප්තියක් නොලබන බව දකී.
4. තමා තුළ තව දුරටත් ඉතිරි වූ කෙළෙස් ද දකියි. සංසාර සම්බන්ධකම් හේතුකොට අත්හරින්නට නොහැකි වූ අකමැත්තෙන් හෝ කිරීමට සිදුවන යම් සංසාර පුරුදු තවමත් සිතට එන බව දකී. ඒවා පව් නොවුනත් ඒවාද නිවනට බාධක බව දකියි. මෙවැනි නිවනට බාධක දේ ප්‍රහාණය කළ යුතු බව නිතර මෙනෙහි කරයි. මේ සඳහා වීර්යය, ධෛර්යය ගත යුතු බව දකියි.
5. ලැබූ නිවන් සුවය අත් විඳියි. සංසාර ගමනේ මෙතෙක් කරමින් සිට දැන් අතහැර නොඇලී මිදී ගිය දේ නිසා ලැබූ නිදහස සුවයක් ලෙසින් දකියි. මෙතෙක් ගිනිගෙන දැවුණු අසහනයෙන් හිරවී සිටියේ තමා බැඳ ගත් හිරකරගත් බැමි නිසා බව දකී. දැන් ඒ බැමි වලින් නිදහස් වී ඇති බවත් එය නිරාමිස සුවයක් බවත් දකියි. ගසක බැඳ සිටියෙකු ඒ බැමි ලෙහා නිදහස් කළ විට දැනෙන සුවය බඳු සුවයක් ලබයි.

සෝතාපන්න මාර්ග ඵලය අවබෝධකරගත් විට පැවැත්ම බෙහෙවින් සංවර වෙයි. එය යථාවබෝධයෙන් ලැබූ සංවරත්වයකි. තැන්පත් වෙයි. අසහනය, දාහය නැති වී ගිනි නිවී යයි. මේ පැවැත්මෙහි ඇති "අනිච්ච, දුක්ඛ, අනත්ථ" බව පිළිබඳව යම් තරමක අවබෝධයකින් පසු වෙයි. පංචකාම සම්පත්තිය මේ සංසාර ගමනට බැඳ තබන බව අවබෝධ කරගනී. දැඩි ආශාව, දැඩි තණ්හාව, ලෞකිකත්වයට දැඩිව බැඳීම නිදහසට බාධක බව දැක ඒවායින් මිදීමට නිදහස් වීමට වෙර දරයි.

මතු ප්‍රයෝජනය සඳහා එකතු කිරීමේ, රැස්කිරීමේ හා පැතුම් පැතීමේ බලාපොරොත්තු නැතිව යයි. පොදි බැඳ තැන්පත් කර රැකීමේ කැමැත්ත පහව යයි. පින් රැස් කිරීමද තේරුමක් නැති බව දැක කරන යම් පින්කමක් වෙත්නම් ඒ පින්ද එදිනෙදාම අනුන් වෙත පවරා එයින්ද නිදහස් වෙයි. එදිනෙදා ජීවිතය පවත්වා ගෙන යාමට අවම අවශ්‍යතා ලැබුණොත් ඉන් සෑහීමට පත්වෙයි. මතු ප්‍රයෝජනය සඳහා තණ්හාවෙන්, ලෝභකමින් එකතු කිරීමට සැළසුම් නොකරයි.

එසේ වුවත් විඳීමේ බලාපොරොත්තු දන ගැනීමේ බලාපොරොත්තු තවමත් පවතී. කාම රාග, පටිඝ, ව්‍යාපාද වලින් තවම සම්පූර්ණයෙන් වෙන් වී නැත. අවිද්‍යාවෙන්, මානයෙන් තවම මිදී නැත.

සෝවාන් මාර්ග ඵල අවබෝධ කරගත් උත්තමයා සක්කාය දිට්ඨි, විචිකිච්චතා, සීලබ්බතපරාමාස යන සංයෝජන තුනෙන්ම මිදෙයි. සංයෝජන යනු සංසාරයට ඇති බැඳීම්ය.

සක්කාය දිට්ඨි යනු :- ස්වකය (තමාගේ කය) පිළිබඳ සත්‍යාවබෝධයක් ලබා ගැනීමෙන් මේ කය පිළිබඳව සත්‍යය තත්ත්වය අවබෝධ කර ගැනීමෙන් මෙතෙක් කය යැයි අල්ලාගෙන සිටි මේ පංචස්කන්ධය පිළිබඳව මෙතෙක් පැවති දෘෂ්ඨියෙන් මිදීමයි. විඤ්ඤාණයෙන් උපදවා ගන්නා චිත්තජ රූප ශක්තියක් ලෙසින් බල ගැන්වී මතු මතුත් කයත්, පංචස්කන්ධයත් සකස් කරගෙන මේ සංසාර ගමන පවත්වා ගෙන යන බව දකී. හේතුඵල දහම අවබෝධ කරගැනීමෙන්ම කය පිළිබඳ සත්‍යය තත්ත්වය දකියි. කය පැවැත්වීම විඤ්ඤාණයේ පැවැත්මට කරන උත්සාහයක් බව දැක ස්වකය යන දෘෂ්ඨියෙන් මිදීම සක්කාය දිට්ඨියෙන් මිදීමයි.

සක්කාය දිට්ඨියෙන් මිදීම, මමත්වයෙන් මිදීම නොවේ. අස්මිමානයෙන් මිදීමද නොවේ. මමත්වය නැති වන්නේ අස්මිමානය නැති කිරීමෙන්ය. අරහත් තත්ත්වයට පත්වන තුරුම මානයෙන් පූර්ණ ලෙස මිදිය නොහැකි අතර අස්මිමානයෙන් මිදී මමත්වයෙන් පූර්ණ ලෙස මිදෙන්නේ අරහත් ඵලය ලැබීමෙන්මය. මේ කය මට උපකාරක වන උපකාරයක් සඳහා පවත්වන දෙයක් බව මෙතෙක් සිතා සිටියත් මෙය රාග, ද්වේෂ, මෝහ පැවැත්වීම සඳහා විඤ්ඤාණය සාදාගත් කුඩුවක් බව අවබෝධ වීම සක්කාය දිට්ඨියෙන් මිදී යාමය.

විචිකිච්චාවෙන් මිදීම යනු ඃ- විෂම වූ, විකෘති වූ චිත්තයකින් පහත්, කිළිටි කටයුතු කැමැත්තෙන්ම මෙතෙක් කළද දැන් අවබෝධයෙන්ම ඒ තත්ත්වයෙන් මිදීමයි. ප්‍රිය, මධුර බව නිසා සුවයක්ය, සැපතක්ය යනුවෙන් රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් මෙතෙක් කල් කටයුතු කළේ විෂම වූ, විකෘති වූ විඤ්ඤාණයෙන්ම බව දැක ඉන් මිදී සත්‍යය දැක සිහියෙන් කටයුතු කිරීම  විචිකිච්චාවෙන් මිදී යාමයි. මෙය අවිශ්වාසයෙන් මිදීමයි. බුද්ධ, ධම්ම, සංඝ යන ත්‍රිවිධ රත්නය ඇතුලු අටතැන් කෙරෙහි විශ්වාසයෙන් මිදීම කංඛාවිතරණයෙන් මිදීම වේ.

පංචකාම ධර්මයන් ගැනම නිතර නිතර විතක්ක විචාර පැවැත්වීම විකෘති සහගත විෂම වූ සිතක් පහළ වීමට හේතුව බව දැක පංචකාම නීවරණ ධර්මයන්ගෙන් මිදී යාම මෙහිදී සිදුවෙයි. බාලයකු ලෙසින් අන්ධයෙකු ලෙසින් කළ පහත් වැඩ අතහැර නුවණින් කටයුතු කිරීම විචිකිච්චාවෙන් මිදීමේ ප්‍රතිඵලයයි.

සීලබ්බත පරාමාසයෙන් මිදීම යනු ඃ- සීලය, වත පරම ආහාරය කොට ගෙන ජීවත්වීමෙන් මිදීමයි. සිල් වතක එල්ලී විවිධ ව්‍රතයන් සමාදන් වී එයම පරම විමුක්තිය යැයි

නිවන යැයි දැඩිව එහි බැඳී කටයුතු කිරීම නිවනට බාධක බව දැන ඉන් මිදී නිදහස් වීම සීලබ්බත පරාමාසයෙන් මිදීමයි.

බුදුන් දවස විවිධ ආගම් 62ක් භාවිතයේ පැවැති බවත් මේ හැම ආගමක්ම යම් දෘෂ්ඨියන් දැඩිව ගෙන සීලයක්, වතක් ප්‍රධාන විමුක්ති මාර්ගය කොට සළකා කටයුතු කළ බවත් පෙනේ. මෙසේ යම් සීලයක වතක දෘෂ්ඨියකට බැඳී එහි එල්බ කටයුතු කිරීම එහි බැඳීමක් සංයෝජනයක් වෙයි. එය "බවයට" අන්ධ බවින් ඇඳන, සම්බන්ධ කරන දෙයක්ම බව දැක ඉන් නිදහස් වීම නිවනට උපකාර වේ. සීලයම, සිල්වත්කමම එකම විමුක්ති මාර්ගය යැයි ගැනීමෙන් නිවන් අවබෝධ කර ගැනීමට උපකාර වන හේතුඵල දහම දැකීම පැවැත්මේ සත්‍යය ස්වභාවය දැකීම මෝහයෙන් වැසීයන නිසා එයින්ද මිදිය යුතු බව ධර්මානුකූලව වටහා ගැනීමයි.

ප්‍රඥාව දියුණු කර ගැනීමට නම් මනස දියුණු කර ගැනීමට නම් දැඩිව අල්ලා ගත් සියලු දෘෂ්ඨීන්ගෙන් මිදී නිදහස් විය යුතුය. සිල්වතද සම්මතයකි. ලෝකයට බැඳුණු සම්මතයකි. සියල්ල ක්‍රමයෙන් අතහැර, නොඇලී, නොබැඳී, මිදී යාම "සම්මා" වීමයි. එය යථාවබෝධයෙන් දැකගත් විට ඉබේම දැඩිව ගත් සිල්වතෙන් ද නිදහස් වෙයි.

සීලය යනු කෙනෙකුගෙන් කෙනෙකුට ලබාදිය හැකි දෙයක් නොවේ. කාගෙන්වත් කාටවත් ලබාගත හැකි දෙයක්ද නොවේ. යථාවබෝධයෙන්, ප්‍රඥාවෙන් තමා තුළම පිහිටවා ගත යුතු පවත්වා ගත යුතු ගුණයන් සමුදායකි. (සංවරත්තේන සීලං)

සෝවාන් මාර්ග ඵලය අවබෝධ කරගත් උත්තමයාට පන්සිල් දසසිල් සමාදන් වීමක් (පොරොන්දු වීමක්) අවශ්‍ය නොවේ. ලැබූ යථාවබෝධය නිසාම දිවි ඇති තෙක් සසර සැරිසරන තෙක් සංවරත්වයෙහි පිහිටන හෙයින් එය අරිය සීලයකි. කුසල සීලයකි. අරිය උත්තමයන්ගේ පංච සීලය පෘථග්ජනයාගේ පංච සීලය නොවේ. එය ප්‍රහාණ සීලය, වේරමණී සීලය, චේතනා සීලය, සංවර සීලය, අවිතික්කම සීලය යන පංච සීලයයි.

සෝවාන් තත්ත්වයට පත් වූ උත්තමයා සදහටම සතර අපා දුකින් මිදුනා වෙයි. කෙත් සතක් පසුකර පරම පවිත්‍ර නිවන පූර්ණ කරන බව ත්‍රිපිටකයෙහි පැහැදිළිව පෙන්වා ඇත. මෙය ආත්ම හතක් හෝ උපත් හතක් ලෙස අර්ථ දක්වා බොහෝ තැන්වල වැරදියට තේරුම් කර දී ඇත. මේ පසු කළ යුතු පින් කෙත් හත ලබා ගතහැකි වන්නේ අරිය උත්තමයින්ටම පමණි. පළමු පින් කෙත සෝවාන් තත්ත්වයෙන්ම ගත කරන හෝ ලබන උත්පත්තීන් හි ගෙවන ජීවිත කාලයයි. දෙවන පින් කෙත සකෘදාගාමී මාර්ගයෙන් ගතකරන ජීවිත කාලයයි. තුන්වන පින්කෙත සකෘදාගාමී ඵලය ලැබ ගත කරන කාලයයි. අනාගාමී මාර්ගයේ ජීවත්වන කාලය සතර වැනි පින් කෙතයි. පස්වැනි පින්කෙත අනාගාමී මාර්ග ඵලය ලැබ ගත කරන කාලයයි. හයවන පින් කෙත අරහත් මාර්ගයේ ගෙවන කාල පරාසයයි. හත්වන පින්කෙත අරහත් බවට පත් වී ගත කරන ජීවිත කාලයයි. මේ පින්කෙත් හතම පසු කිරීම හැම අරිය උත්තමයෙකුම අනිවාර්යෙන් කළ යුතුමයි. මේ සඳහා ගතවන කාලය විනාඩි ගණනක් හෝ වසර ගණනක් විය හැකිය. කෙසේ වුවත් මුලු කාලයම සුගතියක ඉපිද පුණ්‍ය ශක්තියෙන් සතර අපා දුකකට පත් නොවී ධර්මයෙහිම පිහිටා කටයුතු කරයි.

ධ්‍යාන ලබා චේතෝ විමුක්තියට පත් වූ සෝවාන් ඵල ලාභියෙකුට ලැබූ ධ්‍යාන නිසා රාග, ද්වේෂ, මෝහ යන "සං" කොටසක් දවා හැර ඇති නිසා "සං" පැවැත්විය නොහැකි නිසා මතු මිනිස් ලොව උපතක් ලැබිය නොහැකිය. දෙව්ලොවක හෝ බ්‍රහ්ම ලෝකයකම ඉපිද ඉතිරි කෙත් සතද එහිම ගෙවා නිවන් දක්නා ජාති දක්වා කල්ප ගණනක් හෝ ගෙවා නිවන් සුවයට පත්වෙයි. දෙව්ලොව ඉපැදුන සෝවාන්ඵල ලාභියෙකු අනාගාමී ඵලයට එහිදී පත් වීමෙන් තවදුරටත් ආයුෂ ඉතිරිව තිබේ නම් සුද්ධාවාස බ්‍රහ්ම තලයෙහි ඉපිද එහිදී නිවන් දකියි.

චේතෝ විමුක්තිය නොලැබූ ධ්‍යාන නොලැබූ එහෙත් යථාභූත ඥාණය ලැබ සම්මා දිට්ඨියට පත් වූ (සංදිට්ඨිකෝ වූ) සෝවාන් ඵලලාභී අරිය උත්තමයෙකු රාග, ද්වේෂ, මෝහ සහමුළින් දවා හැර නැති නිසා නැවත නැවතත් මිනිස් ලොව ජාත සෝතාපන්න පුද්ගලයින් ලෙස මිනිස් ජීවිතයක උපත ලබයි. මේ මිනිසෙකු ලෙස ලබන උපත් ගණන කොපමණදැයි කොතනකවත් පෙන්වා නැත. ක්‍රමයෙන් ප්‍රඥාව වඩා ප්‍රඥා විමුක්තිය හෝ චේතෝ විමුක්තිය හෝ දෙකම හෝ වඩා කෙත් සතම පසුකර නිවන් දැකීම සිදුවේ. කෙත් සතම පසු කරන්නට පෙර චේතෝ විමුක්තිය ලබාගත හොත් මිනිස් බවින් චුතව දෙව් ලොව හෝ බ්‍රහ්ම ලෝකවල උපත ලබා නිවන් දකියි. කෙත් සතක් පසුකරන බව මිස ජාති හතක් හෝ උපත් හතක් ගත කරන බවක් පාලි ත්‍රිපිටකයේ කිසි තැනක සඳහන් කර නැත. අටුවාවල නම් තිබිය හැකිය. ''බව'' හා ''උපත'' පටළවා ගැනීම නිසා අර්ථය විකෘත විය.

## II පියවර

සෝවාන් මාර්ග ඵලයට පත් වූ උත්තමයෙකු සකෘදාගාමී මාර්ගයටත්, සකෘදාගාමී ඵලයටත් පත්වීම ඊළඟ අවස්ථාවයි. සකෘදාගාමී මාර්ග ඵලයට පත් වීමෙන් සිදුවන්නේ කය පිළිබඳ සත්‍යය අවබෝධය (සක්කාය දිට්ඨිය) තව දුරටත් පිරිසිදු වීමයි. ඉන්ද්‍රියයන් පිනවීම ඉන්ද්‍රියයන් සංතර්පනය කිරීමට මෙතෙක් කල් මුලු දහිරිය යොදා කටයුතු කළ බවත් ඒ ඉන්ද්‍රියය පිනවීම අර්ථයක් නැති, හරයක් නැති, ඵලක් නැති අනාථ තත්ත්වයක් බවත් අවබෝධ වීමෙන් කාමය කෙරෙහි යථාවබෝධයක් ලැබෙයි. කාමය යනු කය රමණය කිරීමයි. නාසයෙන්, දිවෙන්, ස්පර්ශයෙන් කය රමණය කරන්නේ කාගේ වුවමනාවටදැයි දකියි. ඉන්ද්‍රිය පිනවීම, ඉන්ද්‍රිය දාහය නිවීම සඳහා ගන්නා සියලු ක්‍රියාමාර්ග සියලු සංඛාර මතු මතුත් ගිනි උපදවන බව දකියි.

කැඩෙන, බිඳෙන, විනාශ වෙන තාවකාලික වූ කය සුවපත් කිරීම, පිනවීම නිසා ලබන සුගතියක් හෝ නාථ බවක් හෝ නැති බව අවබෝධ වීම නිසා කාමය නැමති රෝගයෙන් මිදී යයි. කාමාශාව නැති වී යයි. මෙහිදී ද කාමාශාවෙන් පූර්ණ ලෙස මිදී යාමක් සිදු නොවෙයි. විඳීමේ, සම්බන්ධ වීමේ, පැතුම් පැතීමේ ආශාව බොහෝ දුරට තුනීවී, අඩු වී යයි. කාම වස්තු පරිහරණයෙන් ලැබූ ප්‍රියමනාප බව ඒ සංසාර පුරුද්ද සම්පූර්ණයෙන් තවමත් අතහැරී නැති නිසා ඒවා විඳීමේ කැමැත්තක් ඇත. නමුත් ඒ කෙරෙහි ඇලීමක් නැත. බඩගින්නට ආහාර ගැනීම වැනි අවම අවශ්‍යතාවන් ඉටුකර ගැනීමෙන් තෘප්තියට පත් වෙයි. රස තෘෂ්ණාව පිණිස ආහාර නොගනී.

රැස් කිරීමේ, එකතු කිරීමේ හා පැතීමේ ආශාවන් තව දුරටත් තුනී වී යයි. සොයා ගෙන ගොස් ආශාවෙන්, තණ්හාවෙන් උපාදානය කරගෙන එසේත් නැති නම් බදාගෙන කෑමක් දැන් නොකරයි. ලැබුණොත් අවශ්‍යතාවය පිරිමසා ගැනීමට අතේ දුරින් තබාගෙන අවශ්‍ය ප්‍රමාණය පමණක් පරිහරණය කර ඉතිරිය අත්හැර නිදහස් වීමට නිතර උත්සාහ ගනී.

කයක හට ගන්නා සියලු රෝගවලට මුල වා, පිත්, සෙම් දෝෂයන්ය. වා, පිත්, සෙම් යනු රාග, ද්වේෂ, මෝහ ගතිගුණවල ගතිරුවයි. රාගයෙන් සෙමත්, ද්වේෂයෙන් පිතත්, මෝහයෙන් වාතයත් උපදියි. වා, පිත්, සෙම් පවතින තුරු සියලු රෝග හටගනී. කාම රෝගය එහි උත්සන්නම තත්ත්වයයි. රාග, ද්වේෂ, මෝහ තුනී කර, බය කර දමා කාම රෝගය ඇතුලු සියලු රෝගවලින් මිදිය හැකි වන්නේ සකෘදාගාමී ඵලයට පත්වීමෙන් පසුවයි.

## III වන පියවර

අරිය උත්තමයෙකු ලබන තුන්වැනි මාර්ග ඵලය අනාගාමී මාර්ග ඵලයයි. මිනිසෙකු වී ඉපදී අනාගාමී මාර්ග ඵලයට පත් වීමෙන් නිරාමිස සුවයක් මෙලොවදීම අත්විඳින්නට හැකිවෙයි. මෙහිදී ලබන සුවය ඉන්ද්‍රියයන් පිනවීමෙන් හෝ ඉන්ද්‍රියය දාහය නිවීමෙන් හෝ ලබන තාවකාලික සුවයක් නොවේ. ඉන්ද්‍රියය පිනවීමෙන් ලබන්නේ යම් වින්දනයකි. වේදනාවකි. එය සුවයක් නොවන්නේ සුළු වේලාවකින්ම ඒ සුවය අවසන් වී යන හෙයිනි. ඒ අනිච්ච ධර්මතාවය නිසයි.

අනාගාමී ඵලයට පත්වීමෙන් ලබන සුවය අත්හැර, නොඇලී, මිදීමෙන්, නිදහස් වීමෙන් ලබන සුවයකි. මෙය නිරාමිස සුවයකි. ලොකු බරක් හිසින් දරා සිටියෙකු බර ඉවතට විසිකර සදහටම ඉන් නිදහස් වීම වැනි සුවයකි. අනාගාමී තත්ත්වයට පත්වීමෙන් පසු එකතු කිරීම, රැස් කිරීම, පැතුම් පැතීම සම්පූර්ණයෙන්ම නවතා දමයි. යමක් රැස් කිරීම බරක් කරට ගැනීමක් ලෙස දකී. බර කරට ගැනීම යන ගමන යාමට බාධක බව දැක ඒවා අත්හරී. අනාගාමී ඵලලාභියා කාමාසාවෙන් පූර්ණ ලෙසින් මිදී යයි. රාග, ලෝභ දෙකෙන්ම මිදෙයි. රාග, ලෝභ දෙකෙන් මිදීමෙහි ප්‍රතිඵලයක් ලෙස ද්වේෂයෙන්ද මිදෙයි. රාග, ලෝභ නැති සිතක ද්වේෂය පහළවිය නොහැකිය. මේ නිසා පටිඝයෙන් මෙන්ම ව්‍යාපාදයෙන් ද මිදීයයි. රාගය, ලෝභය බලාපොරොත්තුවකි. ඒ බලාපොරොත්තු දෙය එලෙසින්ම නොලැබ දෙවන ආකාරයකින් දෙවන වේෂයකින් ලැබීම ද්වේෂය බව මුළින්ද පෙන්වා දී ඇත. දැන් යමක් කෙරෙහි බලාපොරොත්තුවක් නොතබන නිසා උපේක්ඛාවෙන් සියලු දේ ඉවසිය හැකි වෙයි.

පටිඝ හා ව්‍යාපාදයන් දෙයාකාර වූ ද්වේෂයන්ය. මෙය තරමක් පැහැදිළි කර ගත යුතුය. පටිඝ යනු තමා තමා කෙරෙහිම වෛරයක්, ක්‍රෝධයක්, තරහක් ඇති කර ගැනීමයි. කෙනෙකු සිය දිවි හානි කරගන්නේ තමාගේ ඔළුව යමක ගසා ගෙන වේදනා ලබන්නේ තමා තමා කෙරෙහිම ඇති කරගත් තරහ නිසාමය. හිස හැරුණු අතේ යන්නට සිතන්නේ තමා තමාගෙන්ම පළි ගැනීමේ අදහසිනි. ඒ පටිඝයයි.

ව්‍යාපාදය මෙයට වෙනස්ය. වෙනත් කෙනෙකු සමඟ වෙනත් කෙනෙකු කෙරෙහි ඇති කරගත් ද්වේෂය, ක්‍රෝධය, ඊර්ෂ්‍යාව ව්‍යාපාදයයි. යම් දෙයක් හෝ කෙනෙක් තමාට නොලැබී වෙනත් කෙනෙකුට ලැබීම නිසා ඇති වන්නේ ව්‍යාපාදයයි. වෙනත් කෙනෙකු සැප විඳින විට, ඒ කෙරෙහි ඇතිවන ඊර්ෂ්‍යාව ව්‍යාපාදයයි. තමාට නොලැබුණු දෙයක් ඊට හොඳ දෙවැනි ආකාරයකින් වේශයකින් වෙනත් කෙනෙකුට ලැබීම ගැන සිතීමද ව්‍යාපාදයයි. තමාට පමණක් අයිතිකර ගන්නටත් බුක්තියට ගන්නට ඇති ආසාවද ව්‍යාපාදයයි.

අනාගාමී ඵලයට පත්වීම යනු ප්‍රඥාව ඉතා උසස් තත්ත්වයට පත්කර ගැනීමයි. හේතුඵල දහම පිළිබඳ නියම යථාවබෝධයක් ලැබීම නිසා මේ පැවැත්ම පිළිබඳ සත්‍යය දකී. ඒ නිසාම පටිසයෙන්, ව්‍යාපාදයෙන් පූර්ණ ලෙසින් මිදී යයි.

සිදුවන සියල්ල සිදුවන්නේ යම් න්‍යායකට, ධර්මතාවකට අනුවම බවත් ඒ සිදුවන සියල්ලටම හේතු වූ ක්‍රියාකාරකම් තමාම කළ කී දේ බවත්, තමාම නිපදවාගත් ශක්තියක් බවත්, එහි ඵලය තමාටම දුන් ආපසු ලැබී ඇති බවත් දකී. මේ සිදුවන දේ තරහා ගැනීමට හෝ හිත රිදවා ගැනීමට හෝ ඊර්ෂ්‍යා සහගත සිතක් මතුකර ගැනීමට හෝ සුදුසු දේ නොවන බවත් දකියි. මෝහයෙන්, නොදැනීමෙන් මෙතෙක් කල් එවැනි දේට ප්‍රතික්‍රියා දැක්වූ නමුත් එහි ඵලයත්, විපාකයත් තමාටම බව හොඳින් වැටහී, උපේක්ඛා සහගතව සියල්ල අත්හරී.

අනාගාමී උත්තමයෙකු කවුරු මොනවා කළද, කීවද, සිතුවාද සත්ත්ව පුද්ගලවාදයෙන් ඒ දෙස නොබලයි. එහි හේතුඵල දහම පමණක් බලයි. එහි හේතුඵල දහම දැක එම හේතුවෙන් මිදී නිදහස් වීමෙන්ම ඒ හේතුව නොකිරීමෙන්ම, ඵලයෙන් මිදිය හැකි බව දැන කටයුතු කරයි. තමන් ඒ හේතුවෙන් මිදීම මෙන්ම අනුන් කෙරෙහි අනුකම්පා කර පරාර්ථකාමයෙන් ඔහුටත් මෙහි සත්‍යය අවබෝධ වේවා! මෙම පාපයෙන් ඔහුද මිදේවා! යැයි පැතීමට තරම් මෙත් සහගත, කරුණා සහගත, මුදිතා, උපේක්ඛා ගුණයෙන් යුක්ත වෙයි. ඒ කරුණා, මෙත්තා ශක්තිය සියලු පාපයන්ගෙන් මිදීමට තරම් බලවත් චිත්ත ශක්තියකි.

අනාගාමී ඵලයට පත්වීමෙන් කාම රාග, පටිස යන සංයෝජනවලින් මිදී යයි. එක් රැස් කිරීමේ බලාපොරොත්තු සම්පූර්ණයෙන්ම නැතිව යයි. විඳීමේ බලාපොරොත්තුවද භවට නැතිව යයි. සම්බන්ධ වීමේ (සං උපදවා මතු මතුත් භවට ඇදීමේ) බලාපොරොත්තුද නැතිව යයි.

අනාගාමී උත්තමයාටත් තව දුරටත් දැන ගැනීමේ බලාපොරොත්තු පවතී. මේ දැන ගැනීමේ බලාපොරොත්තුව අවශ්‍යතාව පවතින නිසාම අරහත් ඵලයට පත් වීමට උපකාර වන ඒකාග්‍රතාවයෙහි පිහිටීමට හැකි වේ. මම වෙමි යන තත්ත්වය මමත්වය අස්මිමානය තවමත් පවතී. රූප රාග, අරූප රාග, මාන, උද්ධච්ච, අවිද්‍යා යන සංයෝජන වලින් තවමත් පූර්ණ ලෙසින් මිදී නැත. මුල් සිඳ ඇති නමුත් සංසාර පුරුද්ද නිසා ලැබුණ බොහෝ දේ තවමත් ක්‍රියාත්මකව පවතී.

## අරහත් මාර්ග හා අරහත් ඵල ලාභය

සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරහත් යන සතර අවස්ථාවේදීම මාර්ග වැඩීම හා ඵලය භුක්ති විඳීම යැයි දෙවිධියක ක්‍රියාදාමයක්ම සිදුවනු ඇත. මේ සතර අවස්ථාවේදීම මාර්ග වැඩීම ඉතාමත් අමාරු කාර්යයයි. මාර්ග සම්පූර්ණ කරගත් පසුව පමණක් ඵල සිත් පහළවෙයි. නිවන් මාර්ග සම්පූර්ණ කරගන්නට උත්සාහ දරණ අවස්ථාවේදී ඵල සිත් හෝ ක්‍රියාසිත් හෝ ප්‍රත්‍යවේක්ෂා සිත් හෝ පහළ නොවෙයි. මඟ වඩන අවස්ථාවේදී පහළවන්නේ සංඛාර සිත් පමණි. මෙතැනදී දෙයාකාරයකම සංඛාර සිත් පහළවීමද සිදුවෙයි. අවිද්‍යාමූල සංඛාර සිත් හා කුසලමූල සංඛාර සිත් වශයෙනි. මේ සිත් දෙවර්ගය වෙන් කොට දැන හඳුනා ගැනීමත් අවිද්‍යාමූල සංඛාර සිත් නිරෝධ කර ප්‍රහාණය කර දැමීමත් කුසල මූල සිත් වැඩි වැඩියෙන් භාවිතා කර කුණු මුල් සළාහැර චිත්තය පාරිශුද්ධ තත්ත්වයට පත්කර ගැනීමත් පූර්ණ අවබෝධයකින්ම කළ යුතුය. සතියෙහි පිහිටා සම්මා සතියෙන්ම කටයුතු කිරීම යනු මේ ක්‍රියාවලියයි.

ධර්මය අසා දැන විපස්සනා නුවණ පහළ කරගෙන සච්ඡිකරණ ධර්මයන්, ධ්‍යාන ප්‍රඥාවෙන්ම ප්‍රත්‍යක්ෂ කරගත යුතු වන්නේද මේ අවස්ථාවේදීය. බුදුපියාණන්වහන්සේ සච්ඡිකරණ ධර්මයෝ සතර දෙනෙක් අංගුත්තර නිකායෙහි පෙන්වා දී ඇති අතර ප්‍රායෝගික වශයෙන්ම මේ සච්ඡිකරණ ධර්මයන් අවබෝධ කරගෙන මඟපුරා සම්පූර්ණ කරගත යුතුය. අරහත් මාර්ගය සම්පූර්ණ කරගැනීමේදී, මේ සච්ඡිකරණ ධර්මයන් යනු කුමක්දැයි තේරුම් ගෙනම මඟවැඩීම මාර්ග සම්පූර්ණකර ගැනීමටද මහත් පිටුබලයක්ම වෙයි.

සච්ඡිකරණ ධර්මයෝ සතර ආකාර වෙයි.

1. ධම්මා කායේන සච්ඡිකරණියා
2. ධම්මා සතියා සච්ඡිකරණියා
3. ධම්මා චක්ඛුනා සච්ඡිකරණියා
4. ධම්මා පඤ්ඤාය සච්ඡිකරණියා

කායේන සච්ඡිකරණියා යනු අෂ්ට විමෝක්ඛ ධර්මයන් සම්පූර්ණ කරගැනීමයි. අෂ්ටාංගික මාර්ගයම සම්පූර්ණ කර ගැනීම මෙහිදී අදහස් කෙරේ. ඒ ලෝකෝත්තර සම්මා අංග පිළිබඳ යථා දැනුමක් ලබාගෙන තමා තුළ ඇති ආසවක්ඛය කර මිදී නිදහස් වීමේ පහසුම ක්‍රමයකි. මෙය ප්‍රඥා විමුක්තියයි. මිදීම හෙවත් විමුක්තවීම මෙහිදී සිදුවෙයි. අරිය ධ්‍යානයන් සම්පූර්ණ කර ගැනීම චේතෝ විමුක්තිය වඩා අෂ්ට විමෝක්ඛ ධර්මයන් පූර්ණකර ගැනීමයි.

සතියා සච්ඡිකරණියා යනු තමන් තුළම ක්‍රියාත්මක වන හේතුඵල පරම්පරාව පිළිබඳ ඇති වූ පූර්ණ අවබෝධයයි. පුබ්බේනිවාසානුස්සතිය පැවැත්විය හැකි වන්නේද හේතුඵල පරම්පරාව දිගේ විපස්සනා නුවණින් අතීතය දැකීමෙනි. පැවැත්මේ ඇත්ත ඇති සැටියෙන් දැකීම සතියෙන් දැකීමයි.

චක්ඛුනා සච්ඡිකරණියා යනු හේතුඵල පරම්පරාවේම ඇති, නැති වීම නැමැති චුති - උපත පිළිබඳව යථාපරිදි මනසීකරණය කිරීමටත්, හේතුඵල පරම්පරාව ඇතිවෙනු නැතිවෙනු දැකීමත් සමඟ ලබන දැනුමකි. මෙයම චුතුපපාත ඥාණය ලෙසින්ද සමහරවිට විග්‍රහ කෙරෙයි.

පඤ්ඤා සච්ඡිකරණියා යනු හේතුඵල පරම්පරාවක් නොනැසී තමන් තුළම ක්‍රියාත්මක වන්නට මුල් වූ ආසව දැක ආසවක්ඛය කර, ආසවවලින් නිදහස් වී, මිදෙන්නට අවශ්‍ය ප්‍රඥා ශක්තිය උත්පාදනය කර ගැනීමයි. කෙළෙස්, කහට, ආසව දවා හැරීමත් සමඟම ප්‍රභාශ්වර චිත්තයද මතු වී ප්‍රඥාව ක්‍රියාත්මක වන්නට පටන්ගනී. මෙතෙක් කලක් සිත තුළ ක්‍රියාත්මක වූ විඤ්ඤාණ ශක්තිය සහමුළින්ම අවසන් වී චිත්ත ශක්තිය මතුවීම මෙහිදී සිදු වෙයි. දැන් අධ්‍යාත්මික අභ්‍යන්තර පාරිශුද්ධ චිත්ත ශක්තියක් මිස කෙළෙස්වලින්, ආසවවලින් කිළිටි වූ අඳුරු සිතක් තමන් තුළින් පහළ වීම සදාකාලයටම අවසන් ව යයි.

මේ අවස්ථාවන් හතරේදීම සිදුවූයේ අරහත් ඵලයට පත්වීමේ අරහත් මාර්ගයම සම්පූර්ණ වීමයි. මීට කලින් සම්පූර්ණකරගත් සෝවාන් මාර්ගය, සකෘදාගාමී මාර්ගය, අනාගාමී මාර්ගය සම්පූර්ණ කර ගැනීම සඳහා මෙතරම් බලවත් උත්සාහයක්, සම්මා වයාමයක් දැරීමට සිදු නොවීය.

උදාහරණයක් පෙන්වා දෙතොත්, අරහත් මාර්ගය සම්පූර්ණ කිරීම අරහත් මාර්ගය පිරීම යනු දැඩි රළු ජල පහරක් ඇති ගංගාවකින් එගොඩ වීමට පිහිනා යාමක් වැනි ක්‍රියාවකි. ඕඝ නැමැති දැඩි රළු ජල පහරෙහිද නොගිලී, රාග, ද්වේෂ, මෝහවලටද නොබැඳී, විඤ්ඤාණයේ මතුවන වංචක ධර්මවලටද නොරැවටී, ථිනමිද්ධයටද නොඇලී, අලෝක සංඥාවන්ගෙන්ද මත් නොවී, අසංඥ තත්ත්වයටත් පත් නොවී, සංඥා වේදයිත නිරෝධ සමාපත්තියටම පත්වීම සඳහා මෙහිදී නොපසුබට උත්සාහයෙන්ම ක්‍රියාකළ යුතුයි. ගඟදිය පීනා යද්දී දැඩි සැඩ දිය පහරටද ඔරොත්තු දිය යුතුය. කෙළෙස් කුණු කහට වැනි බොහෝ මාරපාක්ෂික බලවේගයන්ද ඉදිරියට ඒමත් සිදුවෙයි. තමන්ගේම විඤ්ඤාණය ආහාර සොයමින් තමාව නොයෙකුත් ආකාරයේ ප්‍රිය අරමුණුවලට, රාග අරමුණුවලට ද්වේෂ අරමුණුවලට, අවිද්‍යා සහගත වූ මමත්වය, මානය මතුකරන සිතුවිලි සිතෙහි මතුකරන්නටත් උත්සාහ දරයි. මේ අවස්ථාවේ සම්මා සතිය පවත්වාගෙන සතර සතිපට්ඨානයෙන් කල් ගෙවීමට ලැබූ පුහුණුව අත්‍යාවශ්‍ය වෙයි. එවන් වංචක ධර්මයකට ගොදුරු වීමෙන් මෙතෙක් වැඩූ මඟ සහමුළින්ම කැඩී, බිඳී නැවතත් මුල සිටම මඟ වඩන්නටද සිදු වේ. බොහෝ දුරටම අරහත් මාර්ගය වඩන හැම කෙනෙකුටම වාගේ මෙවැනි වංචක ධර්මයන් තමාම තේරුම් ගෙන ඒවායින් ගැලවී, ඒවා අතහැර, තමාම නිදහස් විය යුතුය. මාර පාක්ෂික බලවේග යනු මේවාය. දුක් විඳීම යනු මෙවන් දේ ඉවසා දරා, විමසා ක්‍රියා කිරීමයි. මදුරුවෙකුගේ විදීම පවා මේ අවස්ථාවේ මාරපාක්ෂික බලවේගයකි. එයට පැටළැවුනොත් මඟ අවහිර වී ගිය හැකිය.

සියලු බාධක අත්හැර මිදී නිදහස්ව කුණු ඉවත් කරමින් කුසල් පුරා ජලාශයේ එගොඩටම පීනා එගොඩටම ගොඩවීම අරහත් මාර්ග ඵලයට පත්වීමයි. එගොඩ දැකගත්

පසුව ඒ දිවයින ඉලක්ක කරගෙනම මහන්සි නොබලා නොපසුබටව ජලයේත් නොගිලී ඉවුරටම ගොඩවීම මාර්ග ඵලයට පත්වීමයි.

මාර්ගය සම්පූර්ණ කරගෙන, මඟ ගෙවා එගොඩට ගොඩ වූ පසුවද මාර්ග ඵලයට පත්වීමෙන් ටික වේලාවක් යනතුරත් ඵලසිත් පහළවීම සිදු නොවේ. ඒ මාර්ගය ගෙවා දමන්නට ගත් වෙහෙස මහන්සියේ දැඩිකම නිසාය. ක්‍රමයෙන් හති ඇරීමත් සමගම වෙහෙස නිවී ඵලසිත් පහළවන්ටද පටන්ගනී. දැන් සිදුවන්නේ ඵලය භුක්ති විඳීමකි. දැන් සංඛාර සිත් පහළවීම සිදු නොවෙයි. කාර සිත්, ක්‍රියා සිත් පහළවීම පමණක් සිදුවෙයි. අරහත් ඵලය භුක්ති විඳීම සඳහා ප්‍රත්‍යවේක්ෂා නුවණ පහළ වන්නේද ක්‍රමානුකූලවය. ඒ සඳහා සමහර විට දිනක් හෝ දෙකක් ගත කරන්නටත් සිදුවෙනු ඇත.

ගඟෙන් එගොඩට පීනා, එගොඩ වී, හති ඇර අවසානයේ තමන් පීනා එගොඩ වූ රළු ජල පහර දෙසම ආපසු හැරී බැලීමක් වැනි දෙයකි, ප්‍රත්‍යවේක්ෂා නුවණ පහළ වීම. තමා ප්‍රහාණය කර නිදහස් වූ රාග, ද්වේෂ, මෝහ සියල්ලද මෙතෙක් තමන්ම අවිද්‍යාවෙන්, නොදන්නාකමෙන් උපාදානය කර ගෙන, කර ගහගෙන සිටි කුණු කන්දරාව, කුණු ගොඩ තමාටම දකින්නට ලැබෙන්නේ ප්‍රත්‍යවේක්ෂා නුවණ පහළ වීමත් සමඟයි.

නිදහස්වීමෙන් මඟඵල ලාභයේ නිදහස නිවන් සුවය භුක්ති විඳීමට හැකිවන්නේ අරහත්ඵල සම්මාපත්තියටම පත් වීමත් සමඟයි. මේ ඉහාත්ම සුඛවිහරණය ලෙසින්ද ධර්මයේ නම් කර ඇත. මෙතෙක් කල් සංසාරයේ ඉතා දීර්ඝ කාලයක සිට කරගසා ගෙන බරට බරේ අමාරුවෙන් දුක් විඳිමින් ගෙනා කුණු මල්ලම අහකට විසිකර දමා සදහටම ඉන් නිදහස් වූ බව දැක ඒ නිදහස භුක්ති විඳීම මෙහිදී ලබන එක් සුවයකි. ගසකට බැඳ සිටි කෙනෙකු සියලු බැම්වලින් මිදී, බැම්ලෙහා නිදහස් වීම වැනි සුවයක් ලැබීම සංයෝජන වලින් මිදී නිදහස් වීමයි. බරපතල වැඩ සහිතව දඟගෙට නියම වූවෙකු සිර කුඩුවෙන් නිදහස ලැබීම වැනි නිදහස් සුවයක් දැනීම තවත් සුවයකි. කාන්තාරයක අතරමං වූවෙකු කතර ගෙවා ක්ෂේම භූමියකට පැමිණ නිදහස් සුවයෙන් කල්ගෙවන්නාක් වැනි සුවයක් අත්විඳ ගන්නට ලැබීමද තවත් සුවයකි.

අරහත් මාර්ගඵලයට පත් වූවෙකුට කල්යත්ම, සමාපත්තිය ප්‍රගුණවෙත්ම, මොහොතකින් අරහත් ඵල සමාපත්තියට සමවැදී, මඟඵල භුක්ති විඳීමේ හැකියාව හා ශක්තියද ලැබෙයි. මෙය අතහැර මිදී නිදහස් වීමේ සුවයයි. සුඤ්ඤත සමාධි සුවයයි. අනිමිත්ත සමාධි සුවයයි. මිනිසුන් දහසක් අතරේ පවා, මහා රණබිමකදී පවා, කල්ප විනාශයකදී පවා අරහතුන්වහන්සේට මොහොතකින් අරහත්ඵල සමාපත්තියට සමවැදී, සියල්ලෙන් මිදී නිදහස්ව සතර බ්‍රහ්ම විහරණයෙහි යෙදී අනිකුත් අවශේෂ ලෝකයා වෙතද මෙත්තා චිත්ත කිරණ පතුරුවා සෙත් පැතීම කළ හැකි වෙයි. අරහත්ඵල සමාපත්තියට පත් වූ අරහතුන්වහන්සේට අතීත කර්ම ශක්තියක් ඵල විපාක දීමට ශේෂ වී නොතිබුනේ නම් කිසිම ආකාරයක හානියක් විනාශයක් කිරීම කාටවත් ම කළ නොහැකිය. නමුත් පෙරකළ කර්මයන් ගෙවා අවසන් ව නොතිබුනේ නම් මේ ජීවිතයේදීම ඒවාද ගෙවා නිමකළ යුතුමය. ඒවා ගෙවා නිමකර අවසන් වනතුරු පරිණිවීම සිදුවන්නේද නැත.

මාර්ගය සම්පූර්ණ කරගත් මඟඵල ලැබූ අරහතුන්වහන්සේ,

| | | |
|---|---|---|
| පරිඤ්ඤෙයියං | - | පරිඤ්ඤාතං |
| අභිඤ්ඤෙයියං | - | අභිඤ්ඤාතං |
| භාවේතබ්බං | - | භාවිතං |
| පහාතබ්බං | - | පහීණං |

යන සතර ආකාරයේ මාර්ගය පූර්ණ කරගත් අයෙකි. සතර අවස්ථාවකදීම මාර්ග හතරම ගෙවා දමා ඵලසිත් උපදවා ගත් උත්තමයෙකි. දැන් කිසිසේත්ම අවිද්‍යා සංඛාරයකට බැඳීමක්, ඇලීමක්, පටළැවීමක් නැත. කිසිම ප්‍රිය වස්තුවක් කෙරේ තණ්හාවක්, උපාදානය කර ගැනීමක්, අයිති කර ගැනීමක් අරහතුන්වහන්සේ අතින් සිදු නොවේ. කිසිම පුද්ගලයෙකු, වස්තුවක් හෝ අවස්ථාවක් හෝ දෙස රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන්, බලා සිත කිළිටි කර ගන්නේද නැත. නිතරම සිතේහි පවතින්නේ අපිරිමිත උපේක්ඛා ගුණයයි.

අරහත් මාර්ගය වැඩීම පිළිබඳව බොහෝ දෙනෙක් උනන්දුවක් දක්වන නිසා ඒ සියලු දෙනාගේම යථාවබෝධය පිණිස මාර්ගය වැඩීමට උපකාර වන කරුණු තව දුරටත් විස්තර කර දීම සුදුසුය. මාර්ගය වැඩීම සිදුවන්නේ කුසල් සිත් (කුසල මූල සංඛාර) වැඩීමෙන්මය. කුසල සිත් වැඩීම යනු කුමක්ද? ප්‍රායෝගිකවම කුසල් සිත් වැඩිය යුත්තේ කෙසේද? කුසලස්ස උපසම්පදා යන්න පූර්ණ කරගත හැකි වන්නේ කෙසේද නිවැරදිවම තේරුම් ගැනීම අත්‍යාවශ්‍ය කරුණකි. "සං" නැමැති රැස් කිරීම, උපාදානය කර ගැනීමේ ගති ලක්ෂණය, තම සිත තුළින්ම සොයා දැන පහදාගෙන ඒ ඒ ගති ලක්ෂණයන්ම ප්‍රහාණය කර ඉන් නිදහස් වන්නට ඇප කැප වී ක්‍රියා කිරීම කුසල් සිත් වැඩීමයි. තම චිත්තසංථානයට කවදා හෝ අතීත කාලයක තමාම එකතු කර (සං) ගබඩා කරගත් මේ කිළිටි ගති ලක්ෂණයන් සළාහැර, තම චිත්තසංථානයම පිරිසිදු කර ගැනීම කුණු සළා හැරීම, කුසල් සිත් වැඩීම යනුවෙන් අදහස් කරන ක්‍රියාවලියයි. එකතු කර ගත් අතීත පුණ්‍ය ශක්තීන්ද මේ කුණු ගොඩටම අයත්ය. ඒවාද පවරා දිය යුත්තන්ට දී ගෙවා, අවසන් කර ගත යුතුය. ආසව ඛය කර දැමීම ලෙසින්ද පෙන්වා දිය හැකිය.

තමාගේම චිත්තසංථානයේ රාග මුල්, ද්වේෂ මුල්, මෝහ මුල් සජීවීව තැන්පත් වී පවතී නම් තමාගේ සිතෙහි මතු වන්නේ කාම විතර්ක, ව්‍යාපාද විතර්ක, විහිංසා විතර්ක හෝ පාප විතර්කයෝය. මේ අවිද්‍යා මූල විතර්ක සිතේ මතුවනවාත් සමඟම ඒවා මතු වන බව දැක සතියෙන් මෙනෙහි කර එවන් අවිද්‍යා සහගත විතර්ක ප්‍රහාණය කර, ඉවත් කර, සිතින් ඉවත් කර නිරෝධ කළ යුතුයි. ඒ සමඟම තමන් කල්පනා කළ යුතු වන්නේ මෙවන් අවිද්‍යා විතර්කයක් තම සිතෙහි මතු වන්නේ රාග, ද්වේෂ, මෝහ මුල් තම සිත තුළම තවමත් ඇති නිසා බවයි. ඒ අනුව ද්වේෂයක් මතුවෙන්නාහා ද්වේෂ සිත ප්‍රහාණය කර මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා ගුණයන් සිත තුළ වඩා දියුණු කරගෙන ද්වේෂ මූල සිත් සහමුළින්ම කපා හැර ශුද්ධ පවිත්‍ර කරගත යුතුය. මෙසේ කුණු සළාහැර, කුණුමුල් කපා දැමීම කුසල්සිත් වැඩීමයි. මේ ආකාරයටම රාග මූලික කාම විතර්කයක් තම සිතෙහි මතු වූවොත් තමාගේම චිත්තසංථානයේ රාග මූලයක් පවතින බව දැක රාග මූලය සහමුළින්ම

කපා හැර සිත ශුද්ධ පවිත්‍ර කර ගැනීමට ඡන්දරාගය, කාමච්ඡන්දය කපා හැර, සිත සහමුළින්ම පිරිසිදු කර ගත යුතුය. මෙය කුණු සළාහැර, කුණු මුල් කපා හැර, කුසල මූල සිත් වැඩීමයි. මේ ආකාරයටම මෝහ මූල පාප විතර්කයක් තම සිතෙහි මතු වනවාත් සමඟම එයද ප්‍රහාණය කර ත්‍රිලක්ඛණය මෙනෙහි කර කුසල් සිත් වඩා ගන්නට සුදුසු කර්මස්ථානයක් භාවිතා කිරීමද කළ යුතුය. මේ අනුව තම සිතම පාරිශුද්ධ තත්ත්වයට පත් කර ගන්නට කුණු සළාහැර, අධ්‍යාත්මය පිරිසිදු කර ගන්නට කටයුතු කිරීම මාර්ගය පිරීමයි. කුණු සළාහැර, තම සිත පිරිසිදු වීමත් සමඟම ප්‍රඥාවද පහළ වේ. ප්‍රභාෂ්වර සිතද මතුවේ.මෙතෙක් කලක් සංසාර ගමන යාමට තමන්ට උපකාර වූ ආසව සියල්ලම ඛය කර, අඳුරු පටලයන්ගෙන් සිත නිදහස් වේ. "මජ්ඣිමා පටිපදා භගවතේත අභිසම්බුද්ධා" යනුවෙන් පෙන්වා වදාළේ බුදුපියාණන්වහන්සේ අරහත් තත්ත්වයට පත් වීමට මඟපිරූ ආකාරයයි. අරහත් තත්ත්වයට පත් වන්නට නම් හැම මිනිසෙකුමත් මේ ආකාරයෙන්ම මැදින් මිදී මදයෙන් මිදී නිදහස් විය යුතුයි.

මාර්ගය වැඩීමේදී කුසල් සිත් පුරාගෙන සතියෙහි පිහිටා කටයුතු කරන්නට පූර්ණ කැපවීමක්, දැඩි වීර්යයක් මෙන්ම නොපසුබට උත්සාහයක්ද දැරිය යුතුය. රාග, ද්වේෂ, මෝහ නැමැති ඕසයට, සැඩ පහරට අසු නොවී ඉන් බේරීම සඳහා සම්මා වායාමයක් දැරිය යුතුය. එලසිත් යනු මීට වඩා හාත්පසින්ම වෙනස් දෙයකි. දැඩි සැඩ පහර සහිත ජල පහරෙන් එගොඩ වී දැන් ආපසු හැරී ඒ දෙස බලා තමන් ලැබූ නිදහස, සුවය භුක්ති විඳීමක් මෙහිදී කරයි. නැවත කවදාවත්ම මෙවැනි තත්ත්වයකට තමන්ට මුහුණ දෙන්නට සිදුනොවන බව දැක නිරාමිස ප්‍රීතියක් සුවයක් අත්විඳියි. එය නිවන් සුවයයි. එල සිත් පහළ වන්නට පටන් ගත් පසුව අවිද්‍යා සංඛාර සිත් හෝ කුසල මූල සංඛාර සිත් පහළ වීමද අඩු වී යයි. ක්‍රියා සිත්, කාර සිත් පහළ වීම පමණක් සිදුවෙයි. ඒ දිගේ චිත්ත වීථි පැවැත්වීමක් සිදු නොවෙයි.

සතර මහා භූතයින්ගෙන්ම සැදුම්ලත් විපරිණාමයට පත් වී, විනාශ වී, ගෙවී යන දෙයක් තුළින් කිසිම සාරවත් බවක් අරහතුන්වහන්සේ නොදකී.

ඉහාත්ම සුඛ විහරණයෙන් කල් ගෙවීමත් සතර බ්‍රහ්ම විහරණයෙහි යෙදී අවශේෂ ලෝකයා වෙත මෙත්තා චිත්ත කිරණ පැතිරවීමත් අරහතුන්වහන්සේගේ නියත සිරිතයි. මෙයට අමතරව දේශණා ප්‍රාතිහාර්යය, ආදේශණා ප්‍රාතිහාර්යය, අනුශාසණා ප්‍රාතිහාර්යය ලැබූ අරහතුන්වහන්සේලා තමා අවබෝධ කර දැනගත් උතුම් ධර්මය ලෝකයා වෙත දේශණා කර අවශේෂ ලෝකයාටද නිවන් මඟ විවෘත කර දීමේ ඒකායන පරමාර්ථයෙන්ම කටයුතු කරයි. දේශණා ප්‍රාතිහාර්යය හෝ ආදේශණා ප්‍රාතිහාර්යය හෝ නැති අරහතුන් වහන්සේලා නිහඬව සමවත් සුවයෙන් කල් ගෙවනු ලබයි.

රාගයෙන් තොර වූ, ද්වේෂයෙන් තොර වූ, මෝහයෙන් තොර වූ, උපේක්ඛා සහගත සිතෙන් යුක්ත වූ විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, වොස්සග්ග පරිණාමී සමවත් සුවයෙන් වාසය කරන අරහතුන්වහන්සේලා අවශේෂ ලෝකයා වෙත අනන්ත, අප්‍රමාණ ශක්තියෙන් යුත් මෙත්තා සහගත චිත්ත කිරණ පතුරවමින් අපවත් වනතුරුම ඉහාත්ම සුඛ විහරණයෙන් කාලය ගෙවයි.

දැන් තමාගේ සිතෙහි මිනිස් ලොව පිළිබඳව හෝ දෙව්ලොව පිළිබඳව හෝ වෙනත් කාම ලෝක හෝ රූප අරූප ලෝකයක් පිළිබඳව හෝ කිසිම බැඳීමක්, ඇලීමක්, උපාදානය කර ගැනීමේ කැමැත්තක් නැත. කිසියම්ම ආකාරයක ප්‍රිය, මධුර දෙයක් පරිහරණය කිරීමට හෝ එකතු කර අල්ලා ගැනීමට හෝ බලාපොරොත්තුවක් පවා, අරමුණක් පවා සිතෙහි මතු නොවේ. "භව" නිරෝධ කළ අරහතුන්වහන්සේගේ සිතෙහි මතු ජීවත් වීමේ කිසිම අවශ්‍යතාවයක් නොවෙයි. විශ්වයෙන් ණයට ගත්, උපාදානය කර ගත් පංචඋපාදානස්කන්ධයම අතහැර නිදහස් වූ නිසා දසබිම්බර මාර සේනාවෙන් නිදහස් විය. මාරයාට ගෙවා දමන්නට ඇති ණය කලින්ම ගෙවා අවසන්ව ඇති නිසා මරණ භයක්ද නැත. මරණය යනු කුමක්ද යන්න අරහතුන්වහන්සේ ඇත්ත ඇති සැටියෙන් දැක ගෙන ඇත. ඒ නිසා මරණ වේදනාවක්ද නැත. මරණය ළංවත්ම සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට, අරහත්ඵල සමාපත්තියට පත්වීමෙන් වේදනා නිරෝධ කරගත් අරහතුන් වහන්සේට අපවත්වීම නම් පැවැත්ම අවසන් කර ගැනීමද ස්වභාවික දෙයකි.

සියලු දෙනාටම සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරහත් මාර්ගඵලයන්ට පත්වීමෙන් නිවන් සුවය අත්විඳ ගන්නට ශක්තිය ධෛර්යය ලැබේවා!

## මගඵල ලැබූ අරිය උත්තමයෙකු ලබන සමාපත්තීන්

සමාපත්තිය යනු ධ්‍යාන හෝ සමාධි නොවේ. මාර්ගඵලයට පත් වූ පුද්ගලයෙකු පැවැත්ම පිළිබඳ සත්‍යය දැක, මඟ නැණ පහළ වී, පූර්ව භාග නුවණ පහළ වී කටයුතු කරන තත්ත්වයකට පත්වන නිසා සමාපත්තීන්ට සමවදින්නට තරම් සමාධිය බලවත්වෙයි.

1. නිරෝධ සමාපත්තිය
2. ආනන්තරික සමාපත්තිය
3. ඵල සමාපත්තිය ( සෝවාන් ආදී මාර්ගඵල )
4. අරිය සමාපත්තිය
5. අරහත් ඵල සමාපත්තිය

බුදුපියාණන්වහන්සේලාට මේ සියලු සමාපත්තීන්ට සමවැදිය හැකි අතර මහා කරුණා සමාපත්තිය නම් බුදු බවට පමණක් විශේෂ වූ සමාපත්තියකට ද සමවැදී කටයුතු කළ හැකිය. මහා කරුණා සමාපත්තිය ලොව වෙන කිසිම පුද්ගලයෙකුට ලැබිය නොහැකි බලවත්ම සමාපත්තියකි. යමක මහා ප්‍රාතිහාර්යය පෑම පවා කළ හැකි වන්නේ ද මහා කරුණා සමාපත්තියකට සමවැදීමෙන්මය. මේවා අසාධාරණ ඥාණ ලෙසින්ද පෙන්වා දී ඇත. අසාධාරණ ඥාණ යනු ලොව්තුරා බුදුපියාණන්ට පමණක් දැරිය හැකි, අරහතුන්වහන්සේ කෙනෙකුට පවා දැරිය නොහැකි, ධාරණය කළ නොහැකි බලවත් ඥාණයන් වන බවයි.

ආනන්තරික සමාපත්තිය යනු අන් + අන්තර සමාපත්තියයි. අතරක් නැතිවම අධිෂ්ඨානය කළ කාලයක් එක දිගටම නිරෝධ සමාපත්තියට සමවැදී සමාධි සුවයෙන් කාලය ගත කරන්නට බවුන් වඩන්නට හැකි සමාපත්තිය ආනන්තරික සමාපත්තියයි.

අරිය සමාපත්තිය අරිය තත්ත්වයට පත් වූ උත්තමයින්ට සමවැදිය හැකි සමාපත්තියයි. ඵල සමාපත්තිය ද සෝවාන්, සකෘදාගාමී, අනාගාමී යන මාර්ග ඵලයන්ට පත් වූ උත්තමයින්ට, ඒ ඒ මාර්ග ඵලවලට අදාළව සමාපත්තියට සමවදින්නට හැකි ශක්තියෙන් පැවැත්විය හැකි සමාපත්තියයි.

අරහත්ඵල සමාපත්තියට පත්විය හැකි වන්නේ අරහත් තත්ත්වයට පත් වූ උත්තමයින්ට පමණි. බුදුපියාණන්වහන්සේ මෙන්ම පසේ බුද්ධ තත්ත්වයට පත්වන සියලු උත්තමයින් ද අරහත් තත්ත්වයට පත් වී ඇති නිසා ඒ සියලු දෙනාටම අරහත් ඵල සමාපත්තියට සමවැදීමට ද හැකියාව ඇත.

බොහොමයක් අරහතුන්වහන්සේලා තම ජීවිතයේ අවසාන මොහොතේ අරහත් ඵල සමාපත්තියට සමවැදී පිරිණිවන් පානා සේක. එසේ පිරිණිවන් පාන්නේ අරහතුන් වහන්සේ මරුට ණය ගෙවීමක් (මරණයක්) නොකර, පැවැත්ම අවසන් කර අපවත් වීම සඳහාය.

\- නිමි -

**"සංදේශණාව විග්‍රහ කර පිරිසිදුව දේශණා කළෙමි. පටිච්ච සමුප්පාද ධර්මය විග්‍රහ කළෙමි. ද්වතාවය හා ද්වතානුස්සතිය පැහැදිළි කර විග්‍රහ කළෙමි. තිපරිවට්ටය සම්පූර්ණ වශයෙනුත් නිවන් අවබෝධ කරගන්නටම උපකාරවන ලෙසිනුත් දේශණා කළෙමි. මේ අනුව සීල, සමාධි, පඤ්ඤා යන ත්‍රිසික්ඛා සම්පූර්ණ කරගෙන චතු අරිය සත්‍යයන්ද අවබෝධ කරගන්නටත් මගඵල ලබා සංසාර ගමනේ දුක සහමුළින්ම නිමාකර ගන්නටත් උපකාර වන සේ මෙතෙක් වැසී යටපත්ව අභාවයට ගොස් තිබූ පරියාප්ති ශාසනය යළි මතුකර දේශණා කළ බව සිහනද පතුරා ලෝකයාට ප්‍රකාශ කර සිටිමි."**

**අති පූජනීය මීවනපලානේ සිරි ධම්මාලංකාර මහ තෙරුණ් වහන්සේ**